Mahāvaṃsa.

THE

# MAHÁWAṆSA.

FROM

## FIRST TO THIRTY-SIXTH CHAPTER.

---

TRANSLATED AND EDITED, UNDER ORDERS OF THE CEYLON GOVERNMENT,

BY

H. SUMANGALA,

HIGH PRIEST OF ADAM'S PEAK,

AND

DON ANDRIS DE SILVA BATUWANTUDAWA,

PANDIT.

---




COLOMBO:

FRANK LUKER, ACTING GOVERNMENT PRINTER, CEYLON.

1883.

TO

HIS EXCELLENCY

THE RIGHT HONOURABLE

SIR WILLIAM HENRY GREGORY,

KNIGHT COMMANDER OF THE MOST DISTINGUISHED ORDER OF SAINT MICHAEL AND SAINT GEORGE, GOVERNOR AND COMMANDER-IN-CHIEF IN AND OVER THE ISLAND OF CEYLON,

THE FRIEND AND PATRON OF IMPROVEMENT,

UNDER WHOSE ORDERS THIS WORK HAS BEEN TRANSLATED AND PUBLISHED;

AND

WHOSE ADMINISTRATION HAS BEEN SO HIGHLY CONDUCIVE

TO THE ELEVATION OF THE NATIVES,

AND

THE IMPROVEMENT OF THEIR LITERATURE:

THIS WORK IS RESPECTFULLY INSCRIBED

BY THE TRANSLATORS.

*24th January,* 1877.

# INTRODUCTION.

---

# ම හා ව ං ශ ය.

---

"මහතං වංසො පවෙණි මහාවංසො" යනුවෙන් බුඩාදී මහතුන්ගේ පරම්පරාව මහාවංශයයි කියනුලැබේ. මේ ප්‍රකරණය සිංහලාර්ථකථා මහාවංශයයිද ව්‍යවහාරයි—ඒ සිංහල කථාව වැඩි විස්තර හැර අඩුනැත් ආචාර්යපරම්පරාවෙන් ඇසූ නියායෙන් පූරවා දික්සඳ සෙනෙවියා පිරිවෙන් මාහිමි, මහානාම මහතෙරුන් විසින් ගාථා බන්ධනයෙන් රචනාකරණලදී. බුදුන් පිරිනිවි අවුරුදු දෙසිය සතිස් වන්නෙහි ලඞ්කාරාජ්‍යාභිෂෙකලත් දෙවෙනි පෑතිස් මහරජනන් සෙනෙවියෙක් දික්පිළි හඳනා හෙයින් දීඝසන්ද සේනාපතියයි ප්‍රසිඞ්ධවිය. ඒ සේනාපතිහු මිහෙන්ද්‍රස්ථවිර ප්‍රමුඛ මහාසඞ්ඝයා විසින් බඳනා ලද මහාසීමායෙහි මෙකල් මල්වතු හොයයි ව්‍යවහාරවූ කොළොම්හෝ තෙරතැනවූ සූළුවාගෙය, දික්සඳ සෙනෙවියා පිරිවෙන් නම්වී—බුදුන් පිරිනිවි හවුරුදු අටසියයක් පමණ කාලයෙහි මේ දෙවන පෑතිස් රජහුගෙන් අවුරුදු පන්සියයකින් පසු රජවූ මහසෙන් මහරජනන් දවස මේ මහාවංශයෙහි පූර්වභාගය හෙවත් අතිරෙකයක් සහිත සතිස් පරිච්ඡෙදය කොට නිම්යේය.

මේ තෙමේ මහාකාව්‍යලක්ෂණයෙන් උපලක්ෂිතයි.

ආචාර්ය දණ්ඩීන් විසින් කාව්‍යාදර්ශයෙහි.

"සර්ගබන්ධො මහාකාව්‍යමුච්‍යතෙ තස්‍ය ලක්ෂණම්,
ආශීර්නමස්ක්‍රියාවස්තු නිර්දේශොවාපි තන්මුඛම්."

පරිච්ඡෙද බන්ධන ඇතොත් මහාකාව්‍ය නම්වේ. එහි ලක්ෂණ කියනුලැබේ—ඒ මහාකාව්‍යයාගේ ආරම්භය ආශීර්වාද හෝ නමස්කාර හෝ වස්තු නිර්දේශ හෝ වෙයි.

විදග්ධමුඛ මණ්ඩනයෙහි,

"සිද්ධෞෂධානි භවදුඃඛමහාගදානාං
පුණ්‍යාත්මනාං පරමකර්ණරසායනානි,
ප්‍රක්ෂාලනෛකසලිලානි මනොමලානාං
ශෞද්ධොදනෙඃ ප්‍රවචනානි චිරං ජයන්ති."

මේ ආදීන් ආශීර්වාද පෙරටු කාව්‍ය දතයුතු.

වාග්භටයෙහි,

“රාගාදි රෝගාන් සතතානුෂක්තා
නශෙෂකායප්‍රසෘතානශෙෂාන්,
ඖත්සුක්‍යමොහාරතිදාන් ජඝාන
යො ‘පූර්වවෛද්‍යාය නමො’ස්තු තස්මෛ.”

නමස්කාර පූර්වවචන පරිදි මෙසේයි.

මාඝකාව්‍යයෙහි.

“ශ්‍රියඃපතිඃ ශ්‍රීමති ශාසිතුං ජග
ජ්ජගන්නිවාසො වසුදෙවසද්මනි,
වසන් දදර්ශාවතරන්තමම්බරා
ද්ධිරණ්‍යගර්භාංගභුවං මුනිං හරිඃ.”

මේආදිය වස්තු නිර්දේශයි—පාවද “නමස්සිත්වාන සම්බුද්ධං” යනාදී ගාථාචතුෂ්කයෙන් සංශුද්ධ පචකය හා ප්‍රකරණ ප්‍රකාර දිය දක්වනලදී. මෙහි පූර්වගාථාර්ධය මහාකාව්‍යාරම්භයෙහි අභිෂ්ටදෙවතා නමස්කාරයි.

මහාවංසං යනු සංඥයි—බුද්ධාදි මහතුන්ගේ වංශානුයාත ශාසන ප්‍රවෘත්තිකථනය ඇසියටිජනයා නිමිත්තයි. පවක්ඛාමි යන උත්තම පුරුෂෙක වචන යුක්තින් අධ්‍යාහාර කරණලද අහං යන්නෙන් ගම්‍යවූ මහානාමස්ථවිරතෙම කර්තෘයි. මහාවංසං යනනට විශෙෂණවූ “නානානූනාධි කාරිකං” යන පදයෙන් කර්තෘහු තමන්ප්‍රාරබ්ධ ප්‍රකරණයෙහි ආකාර ප්‍රමාණ දක්ව ති—පූරාතනයන් විසින් අර්ථකථාසිංහලමහාවංශය කළනමුත් ඒ අයොග්‍ය බැව් දෙවන ගාථාවෙන් දක්වති—තුන්වන ගාථා වෙන් තමන්කරණ ප්‍රකරණයෙහි පිළිපැදීම් සුකර බැව් දැක්වීම් උපායෙන් ප්‍රයොජන දක්වති—එහිම “සුතිතොච උපාගතං” යන සතරවනපාදයෙන් තමන් කරණ ප්‍රකරණයෙහි උනුතැන් පූරවන බැව්දක්වති.

“අනූපමං වංසවරගතාවාදිනං
සබ්බං අනඤ්ඤං තථ්සුප්පකාසිතං,
අරියාගතං උත්තමසබ්භිවණ්ණිතං
සුණන්තු දීපප්පත්ති සාධු සන්තතං.”

මේ සිංහල අටුවා කථා නයින්ම වංශයාගේ මහත්බව ප්‍රකා ශකරණලදී, එසේම.

“දීපාගමනං බුද්ධස්ස ධාතූනං බොධියාගමං,
සංගහාථෙරවාදඤ්ච දීපම්හි සාසනාගමං,
නරින්දාගමනං වංසං කිත්තයිස්සං සුණාථමෙ”

මේ ගාථාවෙනුදු මහාවංසයාගේ සඞ්ඛ්‍යා මහත්බව ප්‍රකාශ කරණලදී.

"සුණාථ සබ්බෙ පණිධාය මානසං
වංසං පවක්ඛාමි පරම්පරාගතං,
අතිප්පසන්නං බහුනාධිවණ්ණිතං
එතංහි නානාකුසුමං'ව ගන්ථිතං."

යනාදීන් මහාවංසයයි කියනලද මේ කථායෙහි ශාසනකථා ප්‍රධානකොට රාජ පරම්පරා කථායි. ලඞ්කාද්වීපයෙහි ඒ දෙදෙනාගේ පැවැත්ම දක්වන්නෙන් තුන්ප්‍රකාරයක් හැඟෙයි. මෙහි ශාසන කථා නම් බුද්ධානුශාසනය හා ඒ ශාසනය පැවැති පරිද්ද ලඞ්කාද්වීපයෙහි පැවැති රාජපරම්පරා හා ඒ ඒ රාජරාජමහාමාත්‍යාදීන් විසින් ශාසනය පැවැත්වූ පරිද්ද ශාසනයට උපකාරමහා කළ පරිද්ද කලක් ලක්දිව්හි පැවැති පරිද්ද මෙහි දක්වනලදී.

මෙහි පස්වන ගය පටන් එකොළොස්වැනන අවසන්කොට ගාථා සතින් දීපඞ්කරාදි සූවිසි බුදුන් දැක ඒ බුදුවරයන්ගෙන් විවරණලැබ පාරමිත් සියල්ල පුරවා බුදුබව ලත්පරිදි කීමෙන් බුද්ධභාවයෙහි මහිමයත් ඊශ්වරාදි හේතුවකින් හෝ සංසාරෙන් පතනි හේතුවකින් හෝ නොව පුණ්‍ය සම්භාර භරණයෙන් එය ලැබිය යුතුබැව් ප්‍රකාශකෙරෙති.

මෙසින් සූවිසි විවරණ දක්වත්—මෙහි සූවිසි විවරණ නම්:-විසිසතර බුදුකෙනෙකුන්විසින් "තොපි මෙතෙක්කල් ගිය තැන මෙබඳු ගොත්‍රයක ඉපිද මෙබඳු මෙබඳු මහත් ක්‍රියාකොට මෙනම් බොධියක් මුල මාරවිජයකොට බුදුවනුයාහ" යි යනාදිය ප්‍රකාශකිරීමයි—මෙහි දීපඞ්කරු බුදුන්කල අපමහ බෝසතානෝ බමුණුමහසල් කුලයක ඉපිද පිතු පිතාමහාදීන්ගෙන් තමහට පැමිනි සඞ්ඛ්‍යාත් යාවිකයන් විසයෙහි පරිත්‍යාගකොට හඬනනාවූ සියජන පරිජනයා නොතකා හිමවිපියස් වැද තපස් කරමින් පඤ්චාභිඥා අෂ්ටසමාපත්ති ලැබ වසනුවෝ එම බුදුන් හමුව එම බුදුන්ගෙන් සතරපද ගාථාවක් ඇසූ පමණින් පිළිසිඹියා සහිත රහත්ඵල ලබන්ට මහපින් ඇතිවත් හැනප්‍රාප්ත ඒ නිර්වාණ සම්පත්තිය සංසාර දුඃඛයක් සෙයින් හැර සත්වයන් සඳහා සාරාසඞ්ඛ්‍ය කල්ලක්ෂයක් මුලුලෙලහි විඳිනා සංසාර දුඃඛය නිර්වාණය සෙයින් සලකා බුද්ධභාවය පිණිස සිය ජීවිතය බුදුන්ට පරිත්‍යාග කෙළේය. එම දීපඞ්කර භගවත්හුද මහාපුරිසා අදහස් දැන "මෙසින් සාරාසඞ්ඛ්‍ය කල්ලක්ෂයකින් මතු ගෞතම නමින් බුදුවනනාහ" යි වදාළහ.

එතැන් පටන් පාරමි සම්භරණය පටන්ගත්තාහු අසඞ්ඛ්‍යයක් කප් ගෙවූහ, එකල කොණ්ඩඤ්ඤ නම් බුදුකෙනෙක් ලොව පහළවූසේක, එකල අප බෝසතාණෝ විජිතාවි නම් සක්විතිව වසනුවෝ බුදුන් ප්‍රමුඛවූ මහසඟනට මහදන්දී ඒ බුදුන්ගෙනුදු

"මෙයින් තුන් අසඞ්ඛ්‍ය කප්ලක්‍ෂයක් ගියකල බුදුවනෙන්ය" යි
විවරණ ලදහ ⁓ එයිනුදු කප්අසඞ්ඛ්‍යයක් ගියකල එක් කල්ප
යෙක්හිම මඞ්ගලය සුමනය රෙවතය සොභිතයයි සතර බුදුකෙ
නෙක් ලොව පහළවූහ, මඞ්ගල බුදුන් දවස අපමහ බෝසතා
නෝ සුරුචි නම් බමුණෙක්ව බුදුන් ප්‍රධාන මහසඟනට සත්දව
සක් පස්ගෝරස දන්දී අවසාන දවස්හි පාපුරවා බෙහෙත්
පිණිස ගිතෙල් මී උක්සකුරු දන් දුන්හ, ඒ බුදුහු අනුමෙවෙනි
වදාරා "මේ පුරුෂතෙමේ දෙයාසඞ්ඛ්‍ය කප්ලක්‍ෂයකින් මතෙහි
ගෞතම නමින් බුදුවනෙන්ය" යි ප්‍රකාශකළහ ⁓ ඉන්මෑත
භාගයෙහි ලොව පහළවූ සුමන නම් බුදුන් දවස අපමහ බෝ
සතානෝ මහඞී මහානුභාව සම්පන්න නාරජක්ව වසනුවෝ බුදු
කෙනෙක් ලොව පහළවූහයි අසා නෑසමූහයා විසින් පිරිවරණ
ලදූහු නාලොවින් නික්ම අවුත් සපිරිවර බුදුන්ට දිව්‍යතූර්‍ය්‍යී
යෙන් පූජාකරවා මහදන් පවත්වා එකී එකී වහන්සේට සළුසඟ
ලක් බැගින් දන්දී සරණයෙහි පිහිටියහ. ඒ සුමන නම් තථාග
තයෝ "මේ තෙමේ එනකල බුදුවනොජ්ය" යි විවරණ දුන්
සේක.

එයින් මෑතභාගයෙහි රෙවත නම් බුදුහු ලොව පහළවූහ.
එකල බෝසතානෝ අතිදෙව නම් බමුණෙක්ව සතරහු දහම්
අසා තිසරණ පිහිටා ඉස ඇඳිලි බැඳගෙණ ඒ සතරහු කෙලෙස්
ප්‍රහාණයෙහි ගුණවණ උතුරුසළුවෙන් පිදූහ. එහිදීද "මේ
තෙමේ එනකල බුදුවනොන්ය" යි විවරණ කළහ ⁓ ඉන් මෑත
භාගයෙහි සොභිත නම් බුදුහු ලොව පහළවූහ. එකල බෝසතා
නෝ අජිත නම් බමුණෙක්ව බුදුහු දහම් අසා සරණ පිහිටා සපි
රිවර බුදුන්ට මහදන් දුන්හ. එහිදීද "මේතෙමේ එනකල බුදු
වනෙන්ය" යි වදාළහ.

ඉන් මෑතභාගයෙහි කප් අසඞ්ඛ්‍යයක් ගියකල එක් කල්ප
යෙක්හි අනොමදස්සීය පදුමය නාරදයයි යන බුදුවරයෝ ලොව
පහළවූහ. ඉන් අනොමදස්සී බුදුන් දවස අපමහ බෝසතානෝ
මහඞී මහානුභාව සම්පන්න යක්සෙනෙවියෙක්ව නොයෙක් කෙ
ළසුවහස් යක්‍ෂයන්ට අධිපතිවූහ, ඒ තෙමේ බුදුන් ලොව පහළ
වූබැව් අසා අවුත් සපිරිවර බුදුන්ට මහදන් දුනොන්ය. ඒ ශාස්තෘ
තෙමේද "මොහු අනාගතයෙහි බුදුවනනාහ" යි වදාළසේ
ක ⁓ ඉන් අපරභාගයෙහි පදුම නම් බුදුකෙනෙක් ලොව පහ
ළවූහ. එකල අපමහ බෝසතානෝ කිසිපාපයකින් සිංහයොනි
යෙහි ඉපිද වනලැහැබෙක නිරොධ සමාපත්තියෙන් වැඩහුන්
ඒ බුදුන් දැක ඒ අරමුණුකොට උපන් ප්‍රීතිය නොහැර ගොදුරටද
නොගොස් සත්දවසක් උන්වහන්සේ ඇසුරුකොටගෙණ විසූහ,

ශාස්තෘතෙමේ සත්දවස් ඇවෑමෙන් සිංහයා බලා "මේතෙමේ සඞ්ඝයා වදනේය සඞ්ඝතෙමේ ඒවා"යි ඉටුසේක, එකෙණෙහි භික්ෂූහු වැඩිසේක්ලාය, සිංහතෙමේද සඞ්ඝයා දැක සිත පැහැද විය, ශාස්තෘතෙමේ ඔහු සිත බලා "මේතෙමේ අනාගතයෙහි බුදුවනෙන්ය"යි වදාළසේක.—ඉන් මෑතභාගයෙහි නාරද නම් භාග්‍යවතුන් වහන්සේ ලොව පහළවූහ, එකල අපමහ බෝසතාණෝ තවුස් පැවිද්දෙන් පැවිදිව පඤ්චාභිඥා අෂ්ටසමාපත්ති ලාභිව වසනුවෝ සපිරිවර බුදුන්ට රක්ත චන්දනයෙන් පූජාකළහ, ඒ ශාස්තෘහුද "මේතෙමේ අනාගතයෙහි බුදුවන්නේය"යි විවරණ දුන්සේක.

ඉන් මෑතභාගයෙහි මෙයින් කල්පලක්ෂයකින් මත්තෙහි පදුමුත්තර නම් සර්වඥකෙනෙක් ලොව පහළවූහ, එකල අප මහබෝසත් තෙමේ ජටිල නම් මහරැටියෙක්ව බුදුන් ප්‍රධාන සඞ්ඝයාට සිවුරු දන් දිනි, ඒ සර්වඥයෝද "මේතෙමේ මතු බුදුවනොත්ය"යි වදාළහ, එකල මිථ්‍යාදෘෂ්ටික තීර්ථකයෝ නුවූහ. දෙව් මිනිස් සියල්ලෝ තුනුරුවන් සරණ ගතවූමය.—ඉන් කල්ප තිස්දහසකින් මෑත එක්කල්පයෙක්හි සුමේධය සුජාතය යන බුදුවරයෝ දෙදෙනෙක් ලොව පහළවූහ. එයින් සුමේධ නම් බුදුන් දවස අපමහ බෝසත්තෙමේ උත්තර නම් මානවකව නිධානගතව තුබූ අසූකෙළක් ධන වියදම්කොට සඟපිරිස් සහිත බුදුන්ට මහදන්දී බණඅසා තිසරණ පිහිටා ගිහිගෙන් නික්ම පැවිදිවිය. ඒ බුදුහුද "මේතෙමේ අනාගත කාලයෙහි බුදුවනොත්ය"යි වදාළෝ. ඒ බුදුන්ගෙන් මෑතකාලයෙහි සුජාත නම් ශාස්තෘකෙනෙක් ලොව පහළවූහ, එකල අපමහ බෝසතාණෝ සක්විති රජව බුදුකෙනෙක් ලොව පහළවියයි අසා උන්වහන්සේ කරා එළඹ දහම්අසා සඟපිරිස් සහිත බුදුන්ට සත්රුවනින් උපලක්ෂිත සිවුදිවිහි මහරජය පූදා උන්වහන්සේ වෙත පැවිදිවූහ, සියලු රටවාසීහු උපදනා අයගෙණ ආරාමික කෘත්‍යසාදනනාහු බුදුන් ප්‍රධාන මහසඞ්ඝයාට මහදන් දුනෙනෝයි. ඒ සර්වඥයෝද "මේතෙමේ මතු බුදුවනොත්ය" යි වදාළහ.—ඉන් මෑතභාගයෙහි මින් එක්දහස් අටසියයක් කපින් මතුයෙහි එක් කපෙක්හිදීම පියදස්සීය අත්ථදස්සීය ධම්මදස්සීයයි තුන්බුදුවරයෝ ලොව පහළවූහ, එයින් පියදස්සී නම් බුදුන් දවස අප මහසත්හු කාශ්‍යප නම් මානවකව ත්‍රිවේද පාරගතවූහු සතරහු දම්දෙසුම් අසා කෙළසුවහස් ධන පරිත්‍යාගයෙන් සඟරමක් කරවාදී සරණ සිල්හි පිහිටියහ, ඒ සර්වඥයෝද "එක්දස් අටසියයක් කප්ගිය කල මේතෙමේ බුදුවනොත්ය"යි විසඳූහ.—ඉන් මෑතභාගයෙහි අත්ථදස්සී නම් භගවත්හු ලොව පහළවූහ. එකල මහ

සත්හු සුසීම නම් මහත් සෘඞ්ඩිඇති තව්සක්ව දෙව්ලොවින් මදූරා මල්කුඩයක් ගෙණවුත් බුදුන් පිදූහ. ඒ සර්වඥයෝද "මේතෙ මේ අනාගතයෙහි බුදුවනෙන්ය"සි වදාළෝ. ඉන් මැතභාග යෙහි ධම්මදස්සි නම් ශාස්තෘකෙනෙක් උපන. එකල බෝසතා නෝ සක්දෙව්රජව දිව්ගඳ මලින්හා දිව්‍යතූර්‍ය්‍යයෙන් පිදූහ, ඒ සර්වඥයෝද "මේතෙමේ මතු අනාගතයෙහි බුදුවනෙන්ය"සි වදාළහ.

ඉන් මැතභාගයෙහි මෙසින් සුවානූ කපනින් මතුයෙහි එක් කල්පයෙක සිඬත්‍ථ නම් බුදුකෙනෙක් ලොව පහලවූහ, එකල බෝසතානෝ උග්‍රතෙජස් ඇති අභිඥ බලසම්පන්න මගල නම් මහ තව්සක්ව වසනුවෝ මහ දඹඵලයක් ගෙණ තථාගතයන්ට දන් දුන්හ. උන්වහන්සේද එය වලඳ "සුවානූ කපනින් මතෙත හි බුදුවනෙන්ය"සි වදාළහ......ඉන් මැතභාගයෙහි මින් දෙයා නූකපනින් මතෙතහි තිස්සය පුස්සයයිලද නම්ඇති බුදුවරයෝ දෙදෙනෙක් ලොව පහලවූහ, එයින් තිස්ස නම් බුදුන් දවස අප මහබෝසතානෝ මහත් භොග හා යසස්ඇති සුජාත නම් ක්‍ෂත්‍රි යව තවුස් පැවිදෙන් පැවිදිව මහඍීයට පැමිනා වසනුවෝ බුදුහු ලොව පහලවූහයි අසා දිව්මඳුරා පියුම් පරසතුමල් ගෙණ සිවු පිරිස් මැද වඩනා තථාගතයන් පිදූහ, ඒ පිදූමල් අහස වියන්ව සිටියේය. ඒ ශාස්තෘතෙමේද "මේතෙමේ එනකල බුදුවනෙන් ය"සි වදාළසේක......ඉන් මැතභාගයෙහි පුස්ස නම් බුදුහු ලොව පහලවූසේක, එකල බෝසත්හු විජිතාවී නම් ක්‍ෂත්‍රියව වසනුවෝ රජය හැර බුදුන්වෙත පැවිදිව තෙවළා බණ ඉගෙණ මහජන යාගට දහම් දෙස්මින් සීලපාරමීන් පිරූහ, ඒ ශාස්තෘහු "මේතෙ මේ මෙයින් දෙයානූ කපනින් මතෙතහි බුදුවනෙන්ය"සි වදා ළහ ... ඉන් මැතභාගයෙහි මෙයින් ඒකානූ කපනින් මතෙතහි විපස්සී නම් බුදුකෙනෙක් ලොව පහලවූහ, එකල අප මහසත්හු මහඍී මහානුභාව ඇති අතුලනම් නාරජව වසනුවෝ සත්රූ වන් එබ්බූ රූවන් මහ පුටුවකින් බුදුන් පිදිය, උන්වහන්සේද "මේතෙමේ මතු බුදුවන්නේය"සි වදාළහ......ඉන් මැතභාග යෙහි මෙයින් එක්තිස්වන කප සිඛිය වෙස්සභූයයි යන බුදුවර යෝ දෙදෙනෙක් ලොව පහලවූහ, එයින් සිඛි නම් බුදුන් දවස අපමහ බෝසතානෝ අරිඳම නම් රජව බුදුන් ප්‍රධාන සඞ්ඝයාට සිවුරු සහිතව මහදන් පවත්වා සප්තරත්නයෙන් හෙබියාවූ ඇතෙකු පුදා ඇතු පමණකොට කැපබඩු පිදූහ, උන්වහන්සේද "මේතෙමේ එනකල බුදුවනෙන්ය"සි වදාළෝ......ඉන් මැතභා ගයෙහි වෙස්සභූ නම් බුදුකෙනෙක් ලොව පහලවූහ, එකල අප මහ බෝසතානෝ සුදර්‍ශන නම් රජෙක්ව බුදුන් ප්‍රධාන සඞ්ඝයාට

සිවුරු සහිත මහදන්දී උන්වහන්සේ වෙත පැවිදිව ආචාර ගුණයෙන් යුක්තව බුදුරුවන්හි සැලකිම් බහුලවූහ, උන්වහන්සේද "මේතෙමේ එනකල බුදුවන්නේය" යි වදාළෝ......ඉන් මෑතභාගයෙහි මේ මහාභද්‍රකල්පයෙහිම කකුසඳය කෝණගමනය කාශ්‍යපය අප භගවත්හුයයි සතර බුදුකෙනෙක් ලොව පහළවූහු, කකුසඳ බුදුන් දවස අප මහසත්හු ඛෙම නම් රජව බුදුන් ප්‍රධාන සඞ්ඝයාට පාසිවුරු සහිත මහදන් හා අඳුන් ආදී බෙහෙත්ද දන්දී බුදුහුවෙත දහම් අසා පැවිදිවූහ, ඒ ශාස්තෘන් වහන්සේද විවරණ දුන්සේක......ඉන් මෑතභාගයෙහි කෝණගමන නම් ශාස්තෘන් වහන්සේ ලොව පහළවූසේක, එකල බෝසතානෝ පර්වත නම් රජව ඇමැති සමූහයා විසින් පිරිවැරුවෝ බුදුන්වෙත එළඹ දම්දෙසුම් අසා බුදුන් ප්‍රමුඛ භික්ෂු සඞ්ඝයා පවරා මහදන් පවත්වා පත්‍රෝර්ණ චීනපට කෞශෙය කම්බිලද රත්පටද දන්දී උන්වහන්සේවෙත පැවිදිවූහ, උන්වහන්සේද "මේතෙමේ බුදුවන්නේය" යි වදාළසේක.

ඉන් මෑතභාගයෙහි කාශ්‍යප නම් ශාස්තෘන් වහන්සේ ලොව පහළවූසේක, එකල අපමහ බෝසතානෝ ජොතිපාල නම් මානවකව තුන්වෙද පරතෙර පැමිනියෝ ඝටීකාර සූත්‍රයෙහි වදාළ නියායෙන් ඝටීකාර නම් අනාගාමි උපාසකයන් කැටිව බුදුන්කරා එළඹ බණඅසා පැවිදිව ත්‍රිපිටක ධරව වත්පිළිවෙත් සම්පතින් බුදුසසුන් හෙබ්බවූහ,ඒ බුදුහුද විවරණ දුන්හ.

මෙසේ යටකී ආකාරයෙන් ලොකයෙහි මොහඳුරු දුරලා උපන් සූවිසි බුදුන්ගෙන් ලබනලද විවරණ අභිෂෙක ඇතිසේක් දශපාරමිය දශ උපපාරමිය දශ පරමාර්ථ පාරමිය යන සමතිස් පෙරුම් පුරා කෙළවර වෙසතුරු අත්බැව්හි සිට මහදන්දී සත් යළක් මිහිකත ගුගුරුවා දිවි කෙළවර තුසී පුරයෙහි ඉපිද එහි ආයු කෙළවරතෙක් වැස දසදහස් ලෝදැහි දෙව් බඹුන් විසින්.

"කාලො'යංතෙ මහාවීර උප්පජ්ජ මාතුකුච්ඡියං,

සදෙවකං තාරයන්තො බුජ්ඣස්සු අමතං පදං" යි අයදනා ලදුයේ පස්මහ බැලුම් බලා එයින් සැව ශාක්‍ය රාජකුලයෙහි ඉපිදගෙණ එහි මහත්සිරින් පොෂණයකරණු ලබනුයේ අනුක්‍රමයෙන් නවයොවුන් පත්ව තුන්රිතුවට සුදුසුවූ තුන්පහයෙහි දෙව්සිරි බඳු රජසිරි අනුභව කෙරෙමින් උයන් කෙළියට යනුයේ අනුක්‍රමයෙන් ජරාජීර්ණය ව්‍යාධිගතය මෘතයයි කියනලද තුන් පූර්වනිමිති දැක හටගත් සංවෙග ඇතිව නැවතී සතර වෙනිවර පැවිදි වේශය දැක පැවිද්ද මැනවයි ඊට රුචි උපදවා උයන්වැද එහි දවස ගෙවා මගුල්පොකුණ වෙත හුන්නේ කප්පු

වෙස් ගෙණ එළඹියාවූ විසාම් දෙව්පිත්හු විසින් සැදුම් ලදුයේ
රහල් කුමරහු·උපන් පවත් අසා පුත්‍රස්නේහයාගේ බලවත්බැව්
දැන මේ බැම්ම තරවත්ට පළමුවෙන් සිඳින්නෙමැයි සිතා පස්
වරු නුවරට වදිමින්.

“ නිබ්බුතා නූන සා මාතා නිබ්බුතො නූන සො පිතා,
නිබ්බුතා නූන සා නාරී යස්සායං ඊදිසො පති ” යි නැන්
දනියන් දියනිවූ කෘශාගොතමිය විසින් කියනලද මේ ගය
අසා මම මැයවිසින් නිබ්බුත පදය අස්වන ලදුයෙමැයි සතුටුව
කරපැලඳි මුත්හර ගලවා ඈයවෙත යවා තමා විමන් වැද ශ්‍රී
යහනෙහි හුන්නේ නාටිකාවන්ගේ විප්‍රකාර දැක කලකිරුණු
සිත් ඇත්තේ ඡන්නයා පුබුදුවා කන්ථක නම් අසු ගෙන්වා ඒ අසු
නැගී ඡන්නයා යහලුකොට ඇතියේ දසදහස් ලෝදෑහි දෙවියන්
විසින් පිරිවැරුයේ මහාබිනික්මන්කොට අනෝමා හෝතෙරදී
පැවිදිව අනුක්‍රමයෙන් රජගහනුවරට ගොස් එහි පිඬු පිණිස
හැසිර පාණ්ඩව පර්වතච්ඡායාවෙහි හුන්නේ මගධෙශ්වර බිම්බි
සාර රජහු විසින් රාජ්‍යයෙන් පැවරුයේ එය ප්‍රතික්ෂෙපකොට
සර්වඥබවට පැමිණ තමා විජිතයට එනු පිණිස ඒ රජු විසින්
ගන්නාලද පිළිණ ඇතියේ ආලාරකාලාම නම් තව්සාද උද්දකරා
මපුත්ත නම් තව්සාද යන දෙදෙනාකරා එළඹ ඒ දෙදෙනාවෙත
අවබොධකළ සමාධීන් පමණ නොවෙයි සිතා ප්‍රතික්ෂෙපකොට
සහවුරුද්දක් මහාවීර්‍ය්‍යකොට වෙසක් පුණු පොහෝ දවස පෙර
වරුම සුජාතාවන් විසින් දුන් කිරිපිඬු වළඳා නිල්දළා හොය රන්
පය උල්පවා හැර එම හෝතෙර මහ වනලැහැබ නත්සම
වතින් දවස ගෙවා සවස් වේලෙහි සොත්ථිය නම් බමුණ විසින්
දුන් තෘණගෙණ මහාකාළ නාරජු විසින් අභිස්තුත ගුණඇතියේ
සුදවුන් මහරජනන් පිත් ශාක්‍ය ශ්‍රෙෂ්ඨතෙමේ බෝමැඩ නැගී
අපරාජිත පර්‍ය්‍යඞ්ක ස්ථානයෙහි තණඅතුට යම්තාක් මාගේ සිත
ආශ්‍රවයන්ගෙන් නොමිදේනම් ඒතාක් මේ පළඟ නොහරිම් ඉටා
නැගෙණහිරට මූනලා වැඩහිඳ හිරු අස්තගත නොවනතෙ
ක්ම මාරබල විධ්වංශනයකොට ප්‍රථම යාමයෙහි පූර්වෙනිවා
සානුස්මෘතිඥානය මධ්‍යම යාමෙහි චුතුපපාත ඥාණය අලුයම අව
සන්හි ප්‍රත්‍යය ආකාරයෙහි නුවනහෙලා දශබල චතුවෛශාර
ද්‍යාදි සකල ගුණයෙන් හෙබියාවූ නිරුත්තර සම්‍යක් සම්බොධි
යයි කියනලද සර්වඥ පදප්‍රාප්තව බුදුවූසේක් පළඟ නොබිඳ
බෝමැඩ හිඳගෙණ පලසමවතින් සුවයෙන් කල්ගෙවන සේක්
අනුත්තර මහාකරුණා සමාපත්තියට සමවැද එයින් නැගී සකල
ලෝක ධාතුයෙහි විනයනය කටයුතු සත්වයන් බලනසේක් ආශ
යානුශය චරිතාධිමුක්ත්‍යාදී හෙදයෙන් භව්‍යාභව්‍ය සත්වයන් පිරි

විසිනම් හා සත්‍යප්‍රතිවේධය පිණිස තුන්භවයෙහි සියලු සත්ත්වයන් පිරිසිඳ සූවිසි අසඞ්ඛ්‍යයක් පුරුසේක.

මෙසේ දිවකුරු බුදුන් පටන් තුසිතපුරයතෙක් සාරාසඞ්ඛ්‍ය කප්ලක්ෂයක් සමතිස්පෙරුම් පුරමින් සර්වඥපද ප්‍රාප්තිය පිණිස නුවනමුහුකළ කාලය නවාඞ්ග ශාස්තෘසාසනයට * දුරෙ නිදාන නම්වෙයි. එතැන් පටන් බෝ මැඩතෙක් කාලය අවිදූරෙ නිදාන නම්වෙයි. ඒ ඒ සූත්‍රාදීන් වදාරණ දේශකාලාදිය තත්තත් සූත්‍රාදියට සන්තිකෙ නිදාන නම්. බුදුවූ තැන් පටන් පිරිනිවන්පෑ ක්ෂණය දක්වා පන්සාළිස් හවුරුදුක් ලෝකයෙහි සැරිසරමින් පැවැත්තූ චාරිත්‍රහා දම්සක් පැවතුම් සූත්‍රාදි ඒ ඒ දෙසනාද බුදුන් පිරිනිවි දෙමසකින් පසු රජගහනුවර වෙභාර පර්වත ප්‍රාන්තයෙහි සප්තපර්ණිගුහාවාරයෙහි අජාසත් මහරජානන් විසින් කරවනලද ධර්මමණ්ඩපයෙහි රැස්වූ මහාකාශ්‍යපස්ථවිරාදී පන්සියයක් මහ රහතන් වහන්සේලා විසින් සකස්කොට ප්‍රකරණාරූඪ කරණ ලදහ.

මේ දම් දෙසුන් අතුරෙන් දම්සක්පැවතුම් සූත්‍රය ප්‍රථමයෙන් වදාළබැව් එම සූත්‍රනිදානයෙන් හැඟෙයි. ඒනම්, "එවං මෙ සුතං එකං සමයං භගවා බාරාණසියං විහරති ඉසිපතනෙ මිගදායෙ තත්‍රඛො භගවා පඤ්චවග්ගියෙ භික්ඛූ ආමන්තෙසි" මේ නිදාන පාඨය ප්‍රථම සඞ්ගීතිකාලයෙහි කසුප්මහතෙරුන් විසින් විචාරණලද්දවූ අනඳමහතෙරණුවෝ "මාවිසින් මේ (සූත්‍රය) මෙසේ අසන ලදී එක්කලෙක භාග්‍යවතුන් වහන්සේ බරණැස් නුවරවෙත සෘෂීන්ගේ පතනොත්පතනය වනහෙයින් ඉසිපතන නම්වූද, මෘගයන්ට අභයදායක හෙයින් මිගදාය නම්වූද (ආරාමයෙහි) වසනසේක. එහිදී පස්වගමහණුන්ට මෙය වදාළසේකැ"යි කීහ. අන්‍යවූ භික්ෂූන්ට වදාළ හැමසූත්‍රයෙහිම එන "භික්ඛවො'ති භදන්තෙ'ති තෙ භික්ඛූ භග

---

* නවාඞ්ග නම්, සුත්තය ගෙය්‍යය වෙය්‍යාකරණය ගාථාය උදානය ඉතිවුත්තකය ජාතකය අබ්භූතධම්මය වෙදල්ලය යන මෙයි, සූත්‍ර නම් භික්ෂුභික්ෂුණී විභඞ්ග දෙව්සිකඳුවත් ආදියයි. ගෙය නම් ගාථාසහිත සූත්‍රයි—සංයුත් නිකායෙහි සගාථක වර්ගයන් මෙනි. වෙය්‍යාකරණ නම් සියලු අභිධර්මපිටකයද නිර්ගාථක සූත්‍රද ඉතිරි අටඟින් වියුක්ත සියලු බුද්ධවචනද යනමෙයි. ගාථා නම් දම්පියා ථෙර ථෙරී ගාථා ආදියයි—උදාන නම් සොම්නස් සහගත ඥාණයෙන් වදාලාවූ ගාථායෙන් යුක්ත ධර්මයි—"වුත්තංහෙතං භගවතා" යනාදී දසතුරාසියක් සූත්‍රයින් සඞ්ගෘහිතවූයේ ඉතිවුත්තකනම්—ජාතක නම් අපණ්ණක ජාතකාදි පන්සිය පණසක් දේසනායි—අද්භුත ධම්ම නම් ආශ්චර්ය්‍ය අද්භුත ගුණයෙන් යුක්ත දෙසනායි—වෙදල්ල නම් වැඩි වැඩි දැන්මහා වැඩි වැඩි තුෂ්ටියද ලබමින් ප්‍රශ්න විසර්ජනා වශයෙන් පැවැති චූළවෙදල්ල මහාවෙදල්ල සම්මාදිට්ඨිආදි සූත්‍රයි—යන මෙයි.

වතො පච්චස්සොසුං" යන කැබෙල්ල මේ සූත්‍රනිදානයෙහි නායේය. මහණෙනි කියා 'භික්ෂූන් කැඳවූසේක' ස්වාමීන්වහන්සැයි ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේට ප්‍රතිවචන දුන්නෝය යනු අර්ථයි.

කවරහෙයින් මේ නිදානපාඨ කැබෙල්ල නායේද යතහොත්, මේ සූත්‍රදෙසනාව අසනතෙක්ම ඒ පස්වගමහණුන් වහන්සේලා විසින් බුදුබැව්හි ශඞ්කා කළහෙයිනි. එ බව මධ්‍යම සඞ්ගීතියෙහි අරිය පරියෙසන නම් පාසරාසිසූත්‍රයෙන් හා එහි අටුවාවෙන් විස්තර බලා දතයුතුයි, මේ සූත්‍රය වදළාසින් පසු කොතැන් හිඳිවත් කොයි භික්‍ෂු කෙනෙකුටවත් බුදුබැව්හි සන්දෙහයක් නැතිබැවින් මෙබන්දක් නොවීයයි දතයුතු.

මහාකාශ්‍යප උපාලි ආනන්දාදී මහ රහතන් වහන්සේලා විසින් මෙබඳුදෑ අනාගත මහජනයාට සුවසේ තේරුම් ගත්නා පිණිස ශික්ෂාපදාදී ඒ ඒ තැන නිදාන පාඨයන් මේ ආකාරයෙන් තැබූබැව් කල්පනා කටයුතුයි.

ඒ ප්‍රථම සඞ්ගායනාවට නිදානනම්, මහළුවයස පැවිදිවූහෙයින් බුඩ්ඪපබ්බජිත නම්වූ මහණහු විසින් කියනලද අනාදරිය වචනයි, මේ තෙමේ නොසරුප්දෑයින් කැඳ දානයක් බුදුන් සහිත සඞ්ඝයාට දෙනු සඳහා පිළියෙළ කෙළේය, බුදුහු ඒ ප්‍රතික්ෂෙප කළෝ, ඒ කාරණකොටගෙණ බුදුන්කෙරෙහි බඳනාලද වෛරඇත්තේ බුදුන්ගේ තේජෝමහිමයෙන් කිසිවක් කියනොහී පිරිනිවන් පෑවයි යනු අසා සතුරා පිට්දිටී මියි මදක් අස්වස්ලෑබ මතු දක්වන ආකාර කීය, කැඳදානය සැපයූපරිදි මෙසේයි, එක් කලෙක බුදුරජතෙමේ මල්ලරජුන්ගේ කුසිනාරා නුවර රිසිවූ කලක් වැස දොළොස්සිය පණසක් භික්ෂූන් විසින් පිරිවරූ සේක් ආතුමා නුවරට වැඩිසේක, එකල මහළු වයසෙහි ගිහිගෙන් නික්ම පැවිදිවූ පෙර ගිහිකල කරනෑවැම්කම් කළාවූ සුභද්‍රනම් මහණ කෙනෙක් වෙසෙයි, ඒ තෙමේ බුදුන් මහ පිරිවරින් වඩනා බැව් අසා කැඳ දන්දෙනු කැමැත්තේ තමන් ගිහිකල පුත්වූ යහපත් රූ ඇති මනාව ගායනා කටහැක්කාවූ කරනෑවැම් කම්හි ඉතා දක්ෂවූ දරුවන් දෙදෙනා කැඳවා "දරුවෙනි අඩ තෙළෙස්සියයක් භික්ෂූන්කැටිව තථාගතයන් වහන්සේ මේනුවරට වඩනාසේක්ල, තෙපි දැළිරවුළු අන්දම් තබන උපකරණ ගෙණ ගෙයක්පාසා ඇවිදිමින් ලුණු තෙල් සහල් හා කැවිලිද එක්කරව් මෙහි වැඩි තථාගතයන්ට කැඳ දනක් දෙම්හ" යි කීයේය, ඒ දරුවෝද එසේය පියාණෙනි කියා කීවා කළහ.

රෑඇති ගිකියන ඔවුන්දැක නුවර වැසෙසෝ සතුටුව ඉස රව්ලු කප්පවතු නොකැමැතතෝත් ක්‍ෂුරකම් කරවාගෙණ බොහෝ දෙති, මෙසේ ඔහු දෙදෙනා බෙහෝවූ උපකරණ එක් කළෝය, ඉක්බිති පිළිවෙළින් සැරිසරණ තථාගතයන්වහන් සේද වැඩිසේක, පසුවදා බෙහෝ කැඳ සපයවා "ස්වාමීනි භාග්‍යවත්තෙමේ කැඳ පිළිගන්නාසේක්ව"යි භාග්‍යවතුන්වහන් සේට කැඳපිළිගැන්විය, බුදුවරයෝ චනාහි දැනගෙණම කිසිතැනෙක විචාරති කිසිතැනෙක නොවිචාරති, කල් නො කල් දැන ලෝවැඩසඳහා විචාරති, අවැඩපිණිස නොවිචාරති, කරුණු දෙකකින් එනම් දහම් දෙස්නෙමි සව්වන්ට ශික්‍ෂා පදහෝ පණවමැයි භික්‍ෂූන් විචාරති. මෙහිදී තථාගතතෙමේ "මහණ මේ කැඳ කොයින්දැ"යි ඒ මහළු මහණහු විචාළ සේක. ඒතෙමේ එපවත් සැලකෙළේය. භාග්‍යවත් සම්බුද්ධ තෙමේ නින්දාකොට "නභික්ඛවෙ පබ්බජිතෙන අකප්පියෙ සමාදපෙතබ්බං යො සමාදපෙය්‍ය ආපත්ති දුක්කටස්ස" තවද "නච භික්ඛවෙ නහාපිතපුබ්බෙන ඛුරභණ්ඩං පරිහරිතබ්බං යො පරිහරෙය්‍ය ආපත්ති දුක්කටස්ස" මෙහි භාව "මහණෙනි පැවිදිහු විසින් නොකැපයෙහි සමාදන් නොකරවිය යුතුය යමෙක් සමාදන් කරවූයේනම් දුකුළා ඇවැත් වෙයි, මහණෙනි පූර්වයෙහි කරනැවැම්වූවෙකු විසින් කරනැවැම් බඩු පරිහරණය නොකොට යුතුය, යමෙක් පරිහරණය කෙළේනම් දුකුළාවෙයි. මහවග භෙසජ්ජක්ඛන්ධකයෙන් ගන්නාලදී.

ඉක්බිති ආයුෂ්මත් මහාකාශ්‍යප ස්ථවිරතෙමේ ධාතු බෙදීමෙහි රැස්වූ භික්‍ෂුසඞ්ඝයාට වදාරණසේක් "එක්කලෙක මම පාවානුවරින් කුසිනාරානුවරට එන මාර්ගයට මහා භික්‍ෂුසමූහයාහා කැටිව පැමිණියෙමි මගින් ඉවත්ව එක් රුකක්මුල හිඳගතිමි, එකල එක්තරා ආජීවකයෙක් මහත් මදාරා මලක් ගෙණ කුසිනාරානුවරින් පාවානුවර මගට පිළිපන්නේය, ඇවැත්නි මම දුරින්ම එන ඒආජීවකයා දැක "කිමෙක්ද ඇවත අපගේ ශාස්තෲන්වහන්සේ දන්නෙහිදැ"යි කීමි. "දනෙමි, අදින් සත්දවසකින්මතු ශ්‍රමණ ගෞතමතෙම පිරිනිවන් පෑයේය, එයින් මේ මදාරාමල ගතිමි" කීයේය, එසේ කීකල කෙලෙස්සහිත භික්‍ෂූහු "ඉතා ඉක්මනින් භාග්‍යවතුන් වහන්සේ පිරිනිව්සේක, ඉතාවහා ලෝ ඇස අන්තර්ධානවිය "යි දෑත්ඉසබැඳ ගෙණ බිමවැටෙමින් පෙරළෙමින් ඇඬූහ, යම් භික්‍ෂුකෙනෙක් අනාගාමී හෝ රහත්හෝ වූද ඒ සියල්ලෝ සිහිනුවනින් යුක්ත වූවෝ "සංස්කාරයෝ අනිත්‍යයහ ඒ නිත්‍යබැව් කොයින් ලැ

බේද”යි ඉවසුහ, “ඇවැත්නි ඒ භික්ෂූන් අනුශාසනා කෙරෙමින්, ඇවැත්නි ශොකවීමෙන් පමණි නොහඬව් බුදුන් විසින් පළමු කොටම ප්‍රියමනාප සියල්ලෙන් වෙන්වීම නොරවීම වදාරණ ලද් දේම නොවේද? ඊට විරුඩයක් කොයින් ලැබ්බයුතුද? යම් කිසිවක් උපන්නේ නම් උත්පාදසිති භගනම් බිඳෙන සවභාව නම් අහෝ ඒනොබිඳුනනම් යෙහෙකි යනු කොයින් ලැබේද? මේ අවිද්‍යමානයි” මෙසේ භික්ෂූන්ට කියෙමි එකල ඒ පිරිසෙහි උන් බුඩ්ඩපබ්බජිතතෙම කියතුයේ “ඇවැත්නි සෝකකිරීමෙන් පමණි නොහඬව්, ඒමහ මහණහුගෙන් අපි මොනවට මිදුනම්හ, මේ තොපට කැපය මේ තොපට නොකැපයයි (ඔහු ජීවත්වනකාල) උපද්‍රතයම්හ, දැන්වූකලී අපි යමක් කැමතිවන් නෙමුනම් ඒ කරන්නෙමු යමක් නොකැමැතිනම් ඒ නොකරන් නෙමුය” යි කීයේයයි වදාරා “ඇවැත්නි අපි ධර්මයත් විනයත් සඞ්ග්‍රහ කරන්නෙමු එන කාලයෙහි අධර්මය දිප්ත වෙයි ධර්මය පිරිහෙයි අවිනය දිලිහෙයි විනය පිරිහෙයි එසේම එනකාල යෙහි අධර්මවාදීහු බලවත් වන්නාහ ධර්මවාදීහු දුබලවන් නාහ, අවිනයවාදීහු බලවත් වනනාහ විනයවාදීහු දුර්වලවන් නාහ ඊටපෙරතුව අපවිසින් අවශ්‍යයෙන් ධර්මසඞ්ගායනාව කළමැනව” යි වදාළසේක.

“එසේ වීනම් සවාමීනි සවාමීන්වහන්සේ භික්ෂූන් එක්කරණ සේක්ව” යි කිවුය, තෙරුන්වහන්සේද සාරසිය අනූනවනමක් රහතන් වහන්සේලාම එක්කළසේක.

කුමකට පන්සියය නොපිරවූදයත්—ආයුෂමත්වූ අනඳ තෙරුන් සඳහාය, කුමක්හෙයින් ඒ තෙරුන්වහන්සේ පළමු වෙන්ම එක්නොකළසේක්ද? පක්‍ෂපාත බවක්මෙන් සිතෙන බැවිනි, බොහෝ රහතන් වහන්සේලා සිටියදී සෝවාන් අනඳ තෙරුන් එක්කළේ කවරහෙයින්දැයි යමක් නොවිචාරා කියන සාහසිකයෝ කියති, බුදුන් විසින්ම ධර්මධරයන් අතුරෙන් අග්‍රයයි එතදග්‍රපාලියෙහි තබනලද අනඳතෙරුන් හැර සඞ්ගායනා නොකළහැක්කෙන් නොගත්තොත් හෙද වරදැයි කියති, භික්ෂුසමූහයාගේ ආයාචනායෙන් ගත්කල මේ වරද දෙකම නැතිවෙයි, මෙය සුළුවග පඤ්චසතිකක්ඛන්ධකයෙහි දක් වන ලදමැයි. “අථඛො ආයස්මා මහාකස්සපො එකෙනූනානි පඤ්චඅරහන්තසතානි උච්චිනි; භික්ඛූ ආයස්මන්තං මහාකස්සපං එතදවොචුං, අයං භන්තෙ ආයස්මා ආනන්දො කිඤ්චාපි සෙඛො අභබ්බො ඡන්දා දොසා මොහා භයා අගතිං ගන්තුං; බහුච අනෙන භගවතො සන්තිකෙ ධම්මොච විනයොච පරියත්තො තෙනහි භන්තෙ ථෙරො ආයස්මන්තම්පි ආනන්දං උච්චිනතූති.

“අථබො ආයස්මා මහාකස්සපො ආයස්මන්තම්පි ආනන්දං උච්චිනි.”

රැස්වූ මේ පන්සියයක්දෙනා වහන්සේලා රජගහනුවර වස්එළඹ පළමුවෙනි මාසය විහාරනවකම්න් ගෙවා මැදිමස පළමුවෙනිදා පන්සියයක්දෙනාවහන්සේලා පළමු කී මණ්ඩප යට රැස්ව විනයපිටකය පළමුවෙන් උපාලිතෙරුන් ධුරකොට ගෙණ උභතොවිභඞ්ග ඛන්ධක පරිවාරවශයෙන් සඞ්ග්‍රහකළහ; මෙහි උභතො විභඞ්ගනම් භික්ඛුවිභඞ්ග භික්ඛුණීවිභඞ්ග දෙකයි එය පරිජ් පචිති පොත් දෙකෙන් අවසන්වෙයි, මෙහි ඛන්ධක නම් පළමු සඞ්ගායනාවේදී කඳුවත් විස්සකි, මහවග මහාඛන්ධකය පටන් කොසම්බක්ඛන්ධකය අවසන්කොටඇති කඳුවත් දශයයි; කම්මක්ඛන්ධකයපටන් භික්ඛුණී ඛන්ධකය අවසන්කොට ඛන්ධකදශය සුළුවගයි, මේ ප්‍රථම සඞ්ගීතියෙහි පවත් ලියූ පඤ්චසතිකක්ඛන්ධකය සුළුවග එකොළොස්වෙනි ඛන්ධක වෙයි; මෙයින් අවුරුදු සියයකින් පසු කාලාසොක මහරජ්ජුරුවන් දවස විසාලාමහනුවරදී කළඅධිකරණ විනිශ්චය ධම්මසඞ්ගීති පවත් ලියූ කථා සත්තසතිකක්ඛන්ධකනම්, සියල්ල එක්වූකල දෙවිසි කඳුවතකි.

පරිවාරනම්, මේ විනයපිටකයෙහි ආවාවූ සියල්ලක් නොවර දවා විනිශ්චය කරගන්නා පිණිස සංක්ෂෙප සඞ්ග්‍රහයට නගණ ලදී. ඒ පරිවාර පාඨයෙහි පෙණෙයි, මේ විනයපිටකයි.

සූත්‍රපිටකනම්, සතළොස් දහස් පන්සිය පන්සැත්තෑවක් සූත්‍ර දෙශනායි. එය අනඳමහතෙරුන් ධුරකොට රජගහනුවර ප්‍රථම සඞ්ගීතියෙහිදීම දීඝ නිකායාදී සතරෙහි සහ සූත්‍ර නිපාත යෙහිත් සඞ්ගෘහීතයි. දීඝ ප්‍රමාණ සූත්‍රයන් එක්කළහෙයින් වර්ගත්‍රයකින් උපලක්ෂිත සූතිස් සූත්‍රය දීඝ නිකාය නම්, මෙහි ප්‍රථම සඞ්ගීතියෙහිදී සූත්‍ර තිස්තුනයි, කුමාර කාශ්‍යපතෙරුන්හා රාජන්‍යබ්‍රාහ්මණයාගේ ප්‍රශ්නොත්තරවශයෙන් පැවති පායාසි සූත්‍රයත් දෙවන සඞ්ගීතියෙහිදී දික්සඟියෙහි මහාවර්ගයට එක් කරණ ලදැයි මහාවංශ ටීකායෙහි ආයේයි. මූල පණ්ණාස මජ්ඣිම පණ්ණාස උපරිපණ්ණාසයයි යන තුන් පණ්ණාසයෙන් උපලක්ෂිත මධ්‍යම ප්‍රමාණ සූත්‍රයන් එක්කළ බැවින් එසිය පණස්දෙකක් සූත්‍ර මධ්‍යම නිකායෙහි සඞ්ගෘහීතයි. භූයොවෘත්තින් පණ්ණාසයයි ව්‍යවහාර නමුත් උපරිපණ්ණාසයෙහි සූත්‍ර පණස්දෙකක් පෙණෙයි, මෙහිද මාධුර සූත්‍රය දෙවෙනි සඞ්ගායනාවෙහිදී මේ මධ්‍යම නිකායට ඇතුළත්කරණලදැයි සමහරු සිතති, මෙය මහාකසසින් තෙරුන් විසින් වදාරණලදී. ඊට අනතුරුව සංයුත් නිකාය සත්දහස් සත්සිය දෙසැට සූතුරකින් නිමවන ලදී

ඉක්බිති අඞ්ගුත්තර නිකාය නවදහස් පන්සිය පණස් සතකින් සඞ්ගෘහිතයි. ඛුද්දක නිකායාන්තර්ගත සූත්‍ර නිපාතයෙහි සැත්තෑවෙකැයි මෙසේ සියලු සූත්‍ර ගණන සතළොස් දහස් පන්සිය පන්සැත්තෑවකි. නිකාය පචකය හැඳිනගන්නා පිණිස :—

"චතුත්තිංසෙව සුත්තන්තා තිවග්ගො යස්ස සඞ්ගහො
එස දීඝනිකායො'ති පඨමො අනුලොමිකො
දියඩ්ඪසතසුත්තන්තා ‍ චෙව සුත්තාන්ති යත්ථ සො
නිකායො මජ්ඣිමො පචදසවග්ගපරිග්ගහො
සත්ත සුත්තසහස්සානි සත්ත සුත්තසතානි ච,
චාසට්ඨිචෙව සුත්තන්තා එසො සංයුත්තසඞ්ගහො
නව සුත්තසහස්සානි පච සුත්තසතානි ච,
සත්තපඤ්ඤාසසුත්තානි සඞ්ඛා අඞ්ගුත්තරෙ අයං.
ඨපෙත්වා චතුරො'පෙතෙ නිකායෙ දීඝ ආදිකෙ,
තදඤ්ඤං බුද්ධවචනං නිකායො ඛුද්දකො මතො.

ඛුද්දකපාඨ, ධම්මපද, උදාන, ඉතිවුත්තක, සුත්තනිපාත, විමානවත්ථු, පෙතවත්ථු, ථෙරථෙරීගාථා, ජාතක, චූලනිද්දේශ, මහානිද්දේශ, පටිසම්භිදා, අපදාන, බුද්ධවංස, චරියාපිටක, යන පසළොස් ප්‍රකරණයන්හා විනය පිටකයෙහි පොත්පසද, ධම්ම සඞ්ගනි විභඞ්ග පුග්ගලපණ්ණත්ති ධාතුකථා කථාවත්ථු යමක පට්ඨානයයි කියනලද අභිධර්මප්‍රකරණ සතද මේ සත්විසි ප්‍රකරණය ඛුද්දක නිකායනම්,. මෙයින් කථාවත්ථු ප්‍රකරණය පළමුවෙනි දෙවනි සඞ්ගීතිදෙක්හිදී බුදුන්වදාළ මාතෘකාව පමණකි, පසුව ධර්මාශෝක මහරජහුදවස මොග්ගලිපුත්ත තිස්සමහතෙරුන් ප්‍රධානකොට ඇති දහසක් රහතන් වහන්සේලා විසින් නවමසකින්කොට නිමවූ සාහස්සිකානම් සඞ්ගායනාවසානයෙහිදී ඒ සඞ්ගායනාවට ප්‍රධානවූ මොග්ගලිපුත්ත තිස්සමහතෙරුන් විසින් ස්වකීයවාදයෙහි සූත්‍රපන්සියයක්ද පරවාදයෙහි සූත්‍රපන්සියයක් දැයි සූත්‍ර දහසක් එක්කරමින් විස්තරකොට මහත්කරණලදී.

දෙවන සඞ්ගායනායෙහි නිදානනම්.

බුදුන් පිරිනිවි අවුරුදු සියය පිරිකල විසාලාමහනුවර වජ්ජිපුත්‍රක භික්ෂූහු මේ දසවස්තුව ප්‍රකාශකළහ. එනම් 1. "කප්පති සිඞ්ගිලොණකප්පො, 2. කප්පති ද්වඞ්ගුලකප්පො, 3. කප්පති ගාමන්තරකප්පො, 4. කප්පති ආවාසකප්පො, 5. කප්පති අනුමතිකප්පො, 6. කප්පති ආචිණ්ණකප්පො, 7. කප්පති අමථිතකප්පො, 8. කප්පති ජලොගිපාතුං, 9. කප්පති අදසකංනිසීදනං, 10. කප්පති ජාතරූපරජතං," යනදශයයි. මෙහි විස්තර මත්තෙහි දක්වන

බැවිනුත් මහාවංසයෙහි සතරවෙනි පරිච්ඡෙදයෙහි දශවන ගාථාවපටන් විස්තර දැක්වූ බැවිනුත් මෙහි නොදක්වමු.

එකල ආයුෂ්මත් කාකණ්ඩකපුත්‍ර යශස්ථවිරයන් වහන්සේ වජ්ජි රට සැරිසරමින් විසාලාමහනුවරට පැමිණිසේක. එහි මහවන විහාරයෙහි වසනසේක් වජ්ජිපුත්‍රක භික්ෂූහු පොහෝද, කස් බඳනක් දියෙන් පුරවා භික්ෂුසඞ්ඝයා මැද තබා එහි පැමිණෙන විසල්පුරවැසි උපාසක වරුන්ට කියන්නාහු "ඇවැත්නි සඞ්ඝයාට කහවණුද් අඩකහවණුද් පාදයනුද් මාසකයනුත් දෙව්, සඞ්ඝයාහට පිරිකරින් කටයුතුවන්නේය" යි මෙසේ කියති, යශස්ථවිරතෙමේ "ඇවැත්නි සඞ්ඝයාට කහවණුආදිය නොදෙත්වා ශ්‍රමණ ශාක්‍යපුත්‍රයන්ට කැපනොවෙයි ශ්‍රමණ ශාක්‍යපුත්‍රයෝ රන්රිදී මසුකහවණු නොඉවසන්නාහ" යනාදිය වදාළසේක, මෙසේ යශස්ථවිරයන් වහන්සේවිසින් කියනු ලබන්නාවූද විසල්පුරවැස්සෝ කහවණුආදිය සඞ්ඝයාට දුන්නාහුය, ඉක්බිති වජ්ජිපුත්‍රක භික්ෂූහු පසුවද, ඒ හිරණ්‍යවර්‍ගය පිළිවෙළින් කොටස් කොට බෙදූහ, එසේ කොට යශස්ථවිරයන් වහන්සේගේ කොටස ගන්ට කිවූය; තෙරුන්වහන්සේ "නත්‍ථි මෙ ආවුසො හිරඤ්ඤස්ස පටිවිංසො නාහං හිරඤ්ඤං සාදියාමි" යි වදාළසේක, ඉක්බිති වජ්ජිපුත්‍රකභික්ෂූහු "ඇවැත්නි මේ කාකණ්ඩක පුත්‍රස්ථවිරතෙමේ සැදැහැති පහන් උපාසකයන්ට ආක්‍රොශපරිභව බෙණෙයි නොසතුටුකෙරෙයි එහෙයින් මොහුට පටිසාරණිය ( ගිහියන් සමා කරවා ගන්නා ) කර්‍මය කරමුය" යි කියා එසේ කළහ, එකල යශස්ථවිරතෙමේ විනයෙහි ආ පරිද්දෙන් අනුදූත මහණ කෙනෙකු ඉල්වාගෙණ ඒ මහණහු එක්ව විසාලාමහනුවරට පිවිස තමන් ධර්‍මවාදීබැව් ප්‍රකාශකෙරෙමින් බුදුන් වදාළ දෙසුතුරක්හා විනයප්‍රඥප්තියද උපාසකවරුන්ට වදාළසේක, එයින් පළමුවෙනි සූතුර සැකෙවින් මෙසේය. එක්කලෙක බුදුහු දෙව්රම්වෙහෙර වසනුවෝ "මහණෙනි සඳහිරු දෙදෙනාට උපක්ලෙශ සතරෙක, වලාය පිනිය මීදුමය ධූමය හා රජස රාහුය මේ කිලිටි සතරින් කෙලෙසුන සඳ හිරු දෙදෙනා යම්සේ නොබබලද්ද එසේම මේ ලොකයෙහි සමහර මහණ බමුණුකෙනෙක් රහමෙරය මෙවුන්දම රන් රිදී මසුකහවණු පිළිගැණිම, නැකැත්වෙදකම් ආදී මිථ්‍යාජීවයෙන් ජීවිකාය යන මේ උපක්ලෙශයෙන් කිලිටිවූවාහු නොහොබිති." තවද අනික් සූතුරෙහි සංක්ෂෙපය, එක්කලෙක බුදුහු රජගහනුවර වේළුවනයෙහි වසනසේක, එකල රාජාන්තඃපුරයෙහි හිඳගත් රජපිරිස මේ කථාව පහලවිය, "ශ්‍රමණශාක්‍ය

පුත්‍රයන්ට රන්රිදී කැපය ශ්‍රමණශාක්‍යපුත්‍රයෝ ඒ පිළිගන්නාහ’යි කිවූය, එකල ඒ පිරිසෙහි මිණිසිළුනම් ගම්මුදලියෙක් හුන්නේ “පින්වත්නි එසේ නොකියත්වා ශ්‍රමණශාක්‍යපුත්‍රයන්ට රන්රිදී නොකැපය ඒ නොපිළිගණිති” යනාදින් කීය, පිරිසට තමාකීවා අදහවන්ට නොහැකිවූකල බුදුන්වෙත ගොස් විචාළේය, පසුව බුදුහු “ඒකාන්තයෙන් ගම්මුදලිය තා කීවා සරියයි යනාදිය වදාරා “යස්ස ඛො ගාමනි ජාතරූපරජතං කප්පති පඤ්චපි තස්ස කාමගුණා කප්පන්ති යස්ස පඤ්චකාමගුණා කප්පන්ති එකංසෙන ගාමනි ධාරෙය්‍යාසි අස්සමණධම්මො අසක්‍යපුත්තියධම්මො’ති අපිචාහං ගාමනි එවං වදාමි තිණං තිණත්ථිකෙන පරියෙසිතබ්බං එවමාදි” මෙහි භාවයනම් යමෙකුට රන් රිදී කැපනම් ඔහුට පස්කම්ගුණ කැපයහ යමෙකුට පස්කම්ගුණ කැපනම් ගම්මුදලිය ඒකාන්තයෙන්ම ඒ මහණදමෙක් නොවෙයි ශාක්‍යපුත්‍රයන්ට අයිති ධර්මයෙක් නොවෙයි ඒකාන්තයෙන් වරදැයි යනාදිය වදාළහ. මේ දෙසුතුර මහ තෙරණුවෝ උපාසකයන්ට වදාරා, නවද “ඇවැත්නි එක්කලෙක බුදුහු රජගහනුවර වසනුවෝ ආයුෂ්මත් උපනන්ද ශාක්‍යපුත්‍රතෙරුන් අරභයා රන්රිදී පිළිගැන්ම ප්‍රතික්ෂෙප කළසේක, ශික්ෂාපද පැණවූසේක. මෙබඳු වාදඇති මම සැදැහැති පහන් ආයුෂ්මත් උපාසකයන් ආක්‍රොශකෙරෙමි පරිභවබෙණෙමි නොසතුටු කෙරෙමි” යනාදිය දැන්වූකල උපාසකවරු දන්වත්නාහු “එකො’ව භන්තෙ අය්‍යො යසො කාකණ්ඩපුත්තො සමණො සක්‍යපුත්තියො සබ්බෙ’විමෙ අස්සමණා අසක්‍යපුත්තියා,, යනාදින් “ස්වාමීනි අයිෂ්වූ කාකණ්ඩකපුත්‍රවූ යසස්විරනම් ඔබවහන්සේ පමණෙක්ම ශ්‍රමණය ශාක්‍යපුත්‍රය මේ සියල්ලෝම අශ්‍රමණයෝය අශාක්‍යපුත්‍රයහ” යනාදින් කියා “ස්වාමීනි මෙහි විසාලාමහනුවර විසුවමැනවැ” යි කිවූය. අනුදූත මහණහු සමග පෙරළා විහාරයට වැඩිසේක,

ඉක්බිති වජ්ජිපුත්‍රක භික්ෂූහු “ මේ යසස්විරතෙමේ උපාසකවරුන් සමා කරවාගත්තේදැ” යි අනුදූත භික්ෂූහු විචාළාහ, “අප සියල්ලන් අශ්‍රමණයන් කොට තමන් පමණක් ශ්‍රමණවිය” යි යනාදීන් දැන්විය, ඉක්බිති වජ්ජිපුත්‍රකභික්ෂූහු යසස්විරයන්ට උක්ඛෙපනීය කර්මය කරන්ට රැස්වූහ, ඉක්බිති යසස්විරතෙමේ ඍද්ධිබලයෙන් එතනින් පිටත්ව ගොස් පාවා අවන්තිදෙරට බොහෝ භික්ෂූන්වෙත හසුන් යවා තමන් වහන්සේ අධොගඞ්ග පර්වතයට එළඹ එකල එහි වැසි ආරණ්‍යවාසී සම්භූත මහතෙරුන් වෙතට වැඩිසේක, පාවෙය්‍යකවනාති භික්ෂූහුද එහි එළඹියෝය. මේ

සියල්ලෝම සාකච්ඡා කොටගෙණ සහජාතිරටට එළඹ රෙවත තෙරුන් දුටහ, එහි රැස්වූ සඞ්ඝයාට මෙසේ දන්වමින් "ඇවැත්නි සඞ්ඝතෙමේ මා කියන්නක් අසාවා, ඉදින් අපි මේ අධිකරණය මෙහිදී ව්‍යපශමනය කරන්නෙමු නම් මුල ඉපදවූ භික්ෂූහු නැවත කර්ම්මකරණු පිණිස කලහ කටහැකි වෙති, ඉදින් සඞ්ඝයාට පැමිණිකල් ඇත්තේවිනම් මේ අධිකරණය උපන් ස්ථානයෙහිම ව්‍යපශමනය කරන්නෙමුයයි දැන්වූසේක" උන්වහන්සේ ඇතුළු සඞ්ඝයා ඒ අධිකරණය විනිශ්චය කරණු කැමැත්තෝ විශාලා මහනුවරට පැමිණියහ, එකල මුළුපොළවෙහි සියලු සඞ්ඝයා කෙරෙහි වැඩිමහල් උපසම්පදාවෙන් එක්සිය විසිවයස්වූ අනඳමහතෙරුන්ගේ සද්ධිවිහාරික සබ්බකාමීනම් මහතෙර කෙනෙක් ඒ නුවර වසනසේක. මේ සියල්ලෝ ඒ තෙරුන්වෙත එළඹ උන්වහන්සේත් සමග මන්ත්‍රණය කොටගෙණ විශාලා මහනුවර වෙත මහාවනයෙහි කූටාගාරවිහාරයට රැස්වූහ, ඉක්බිති ආයුෂමත් රෙවතස්ථවිරතෙම "සුණාතුමෙ භන්තෙ සඞ්ඝො අම්හාකං ඉමස්මිං අධිකරණෙ විනිච්ඡියමානෙ අනග්ගානි චෙව භස්සානි ජායන්ති නචෙකස්ස භාසිතස්ස අත්‍ථො විඤ්ඤායති යදි සඞ්ඝස්ස පත්තකල්ලං සඞ්ඝො ඉමං අධිකරණං උබ්බාහිකාය වූපසමෙය්‍ය" සඞ්ඝයාට දැන්වූසේක. මෙහිභාවය, "වහන්ස සඞ්ඝතෙමේ මාකියන්නක් අසාවා; අපවිසින් මේ අධිකරණ විනිශ්චය කරණකල අවසන්නැති විස්තර කථා වන්නාහ, කා විසින් කියනලද බසෙකත් අර්ථ නොවැටහෙයි (එහෙයින්) සඞ්ඝයාට පැමිණිකල්ඇත්තේ නම් සඞ්ඝතෙමේ මේ අධිකරණය උබ්බාහිකා සමථයෙන් * ව්‍යපශමනය කරන්නේය" යනුයි.

මෙසේ දන්වා නැගෙණහිරරටවැසි සබ්බකාමිමහතෙරුන්ද සාළ්හමහතෙරුන්ද ඛුජ්ජසොභිතමහතෙරුන්ද වාසභගාමිමහතෙරුන්ද යන සතරදෙනාහා පාවා රට භික්ෂූන්අතුරෙන් රෙවත මහතෙරුන්ද සාණවාසී සම්භූත මහතෙරුන්ද කාකණ්ඩකපුත්‍ර යස මහතෙරුන්ද සුමණමහතෙරුන්ද යන අටමහතෙරුන් උබ්බාහිකායෙන් මේ අධිකරණය සමථයට නිශ්චයකොටගෙණ එම නුවර වාලුකාරාම විහාරයට වැඩිසේක්ලාය, එහිදී ආයුෂ්මත් රෙවතතෙරුන්වහන්සේ සඞ්ඝසම්මතයෙන් සබ්බකාමි

---

* "උබ්බාහිකාය සම්මන්නිතබ්බො'ති පරතොවුත්තාය ඤත්තිදුතියාය කම්මවාචාය, එවං සම්මතෙහි පන භික්ඛූහි විසුංවා නිසීදිත්වා තස්සායෙවවා පරිසාය අඤ්ඤෙහිවා නකිඤ්චි කථෙතබ්බන්ති සාවෙත්වා තං අධිකරණං විනිච්ඡිතබ්බං"

මහතෙරුන් විනය විචාළසේක, ඒ තෙරනුවෝත් සඞ්ඝසම්මත යෙන්ම විසඳූහ, "වහන්ස ශෘඞ්ගි ලවණ කල්පය කැපද? ඇවැත් නි ඒ කවරේද? "ස්වාමීනි අභින්කළ තුළාවෙක බහා ලුණුනැති ආහාර ලත්කල මිශ්‍රකොටගෙණ වළඳනා පිණිස ලුණුපරිහර ණය සිහිලොණකප්ප නම් "ඇවැත්නි කැපනොවේ "කොහිදී මෙය ප්‍රතික්ෂෙපකරණලදද? සැවැත්නුවරදී ප්‍රතික්ෂිප්තයි, ඒබව මහාවිභඞගයෙහි ආයේය, එසේ කරන්නා කවරවරදකට පැමි ණේද? සන්නිධිකාරක භොජනයෙහි පචිතිඇවතට පැමිණෙයි. එකල රේවතතෙරුන්වහන්සේ "වහන්ස සඞ්ඝතෙමේ මාගියන් නක් අසාවා මේ පළමුවෙනි වස්තුව සඞ්ඝයාවිසින් විනිශ්චයක රණ ලදී, මෙසේත් මේ වස්තුව ධර්මයෙන් විනයෙන් බුදුසස් නෙන් ඉවතය මේ පළමුවෙනි සලාකාව තබමි" වදාළසේක.

මේ ක්‍රමයෙන් ඉතිරි නවයෙහිත් විනිශ්චය දතයුතුයි. මෙහි චඞ්ගුලකප්පනම්, ඉරහැරී දෑඟුලක් සෙවනැල්ල වැඩෙන තුරු විකල්බොජුන් කැපය යනුයි, හෙද පචිතිඇවැත්කරයි, ගාමන්තරකප්පනම් පවාරිතවූ යමෙක් අන්ගමකට යනසිතින් කැපනොකොට ආහාරවැළඳිමයි, මෙද පචිතිඇවැත්කරයි, ආවා ස කල්පනම්, නානා ආවාස ඇති එක්මහ සීමාවෙක වෙන් වෙන් පොහෝකිරීමයි, එය උපොසථක්ඛන්ධකයෙහි දුකුළාබැව් වදා රණලදී, අනුමතිකල්පනම්, සතරවැන්නෙහි තිපරිද්දෙන්ම වෙනවෙන ආවාසයන්හි වර්ගීවූ සඞ්ඝයා විසින් විනය කටයුතු කිරීමයි, හෙද චම්පෙය්‍යක්ඛන්ධකයෙහි තිපරිද්දෙන් දුකුළායි, ආචිණ්ණකප්පනම්, ගුරුඋපාධ්‍යායන් විසින් කළදෙයක් කැපය යනුයි, යමක් ධර්මවිනයට එකඟනම් කැපයි එසේනැත්නම් අකැපයි, අමථිතකප්පනම්, යම්කිරක් කිරිබැවින් තොරනම් දිබවටත් නොපැමිණියේනම් එසේවූදෙය පවාරිතවූවහු විසින් කැපකරවා නොගෙණ පිමයි මෙද පචිතිකරයි, මෙහි ජලොගි පාන කල්පයනම්, යම්සුරවක් මත්වෙනබවට නොගියේනම් එසෙවිදෑ පිමයි * හෙද පචිතිකරයි, දඟවලුනැති නිසීදනය කැපය යනු එකෙකි, ඒ නොකැපයි, පරිහරණයකළ පචිති කරයි, ජතරූපරජතය කැපයයනු දසවැන්නයි, හේ පිළිගත පචිතිකරයි, මෙසේ දශය විචාරා නැවත නොකැපබැව් නිශ්චය කොටගෙණ මහාවනයෙහි කූටාගාර ශාලාවට එළඹ එහිදීත් මෙසේ පුච්ඡා විසර්ජනයෙන් සඟමැද විනිශ්චය කළහ, දෙවන සඞ්ගීතියට නිදාන මෙසේයි.

---

* සමහර පොතෙක ජලොගීයි පෙණෙයි.

මෙසින්පසු සත්සියයක් රහතන් වහන්සේලා රැස්ව සත්මස
කින් දෙවන සඞ්ගායනාව නිමවනලදී.

## තුන්වන සඟායනාවට නිදාන නම්.

බුදුන් පිරිනිවි දෙසිය අටළොස්වනෙනාහි දඹදිව් අගරජ
පැමිණි මගධ රට පැළලුප්නුවර විසූ ධර්මාශොක මහරජු ඇතුළු
මහජනයා බුඩශාසනයෙහි ශ්‍රඩාභක්ති උපදවා මහත් පූජාසත්
කාර පැවැත්තුහ. ඒ මහරජු මල් තිස්සනම් යුවරජතෙමේද එම
මහරජානන් දියනි සම්මිත්කුමරිය වලලහ අග්ගිබ්‍රහ්මානම් කුම
රද සස්න පැවිදිවූහ. එසේම එම අගරජ පිත් මිහිදුකුමරුහා සම්
මිත් කුමරීත් පැවිදිවූහ——තවද මෙම පැළලුප්නුවර තිස්සය සූ
මිත්තය යන කුනාතපුත්‍ර තෙරුන් දෙදෙනා ධර්මාශොක රජහු
ඔටුනුපැලඳි අටවැනි හවුරුදුයෙහි ඍඞ්ප්‍රාතිහාර්‍ය්‍ය දක්වා පිරි
නිවන්පෑසේක්ලාය——මේකාරණ හේතුකොටගෙණ බුදුසස්
නට උපන් මහගංවතුරු බඳු ලාභසත්කාරබලා එහි ලොල්වූ
තීර්ථකයෝ අසන වසන මාත්‍රයකුත් නොලබන්නාහු භික්ෂූන්වෙ
තහා තමතමන්මත් කසාපිළි හැඳපෙරවගෙණ අපිත් සෞගත
ශ්‍රමණයම්හයි භික්ෂූන් අතුරට වන්නුය. සුගත්සමයෙහි එසේ
පැවිදි වෙස් ගත්නමුත් සවකීය පූර්වපරිචිත පචතාප ආදිත්‍යා
නුපරිවර්තනාදි තීර්ථකක්‍රියා කෙරෙති, භික්ෂූහු ධර්මයෙන් වින
යෙන් අනුශාසනාකොට මොවුන් සසුන් පිළිවෙත්හි යොදන්ට
හෝ ශාසනයෙන් බැහැර ලන්ටහෝ නොපොහොසත්වූහ.

භික්ෂුසඞසයා පොහෝපවුරුණු ආදි විනය කම් කරණට
රැස්වූකල උක්තප්‍රකාර අනාචාරයෙහි හැසිරෙණ තීර්ථකයෝද
අවුදින් අතරතුර ඉඳගණිති, මොවුන්හා පෙසල භික්ෂූහු විනය
කම් නොකරති මෙසින් අශොකාරාමයෙහි සත්හවුරුද්දක් පො
හෝ කිරීම සුන්විය. එ පවත්අසා රජ්ජුරුවෝ ඒ අධිකරණය සන්
සිඳුවනු සඳහා ඇමතියෙකු යැවූය; මුග්ධ ඒතෙමේ ගොස් පො
හෝ කරවයයි පිරිසට ආඥකොළේය; පෙසල භික්ෂූහු මේ තීර්ථක
යන් සමග පොහෝ නොකරම්හයි කීකල පොහෝ කරවම් කියා
තෙරුන් කීපදෙනෙකුන් හිස් කපාහෙළීය, ඒ දැක රජහුමල්
තිස්සතෙරනුවෝ වහා ගොස් ඔහුට ආසනනඅස්න හිඳගත්සේක
ඇමති ඒතෙරුන් දැක උන්වහන්සේට එබන්දක් කරන්ට නො
පොහොනේ හැරීගොස් රජහට එපවත් දැන්විය.

ඒ ඇසූ රජතෙමේ හටගත් දැහැතෙත් වෙහෙරට ගොස් මේ
අකුසල කර්මය කාටද්‍යෙයි පිළිවිසෝය, සමහරු තොපටයයි
කියාද සමහරු දෙදෙනාටමයයිද බුඩසමයෙහි නිපුණයෝ භික්ෂු

සාතනයෙහි නොපසිත්නැතිබැවින් ඔහුට පමණක්යයිද තුන් පක්ෂව තිවූය—රජතෙමේ නොසතුටුව මේ ශඞ්කා දුරලීමටත් අධිකරණ විනිශ්චයටත් සමත්ථකවරේදැයි විචාරා එකලට අහෝ ගඟපව්වත විහාරයෙහි විසූ මොග්ගලිපුත්තතිස්ස මහතෙරණු වන් ගෙන්වා උන්වහන්සේගේ ඍද්ධිප්‍රාතිහාර්‍ය්‍ය දැක සතුටුව භික්ෂුසාතනයෙන් පව්ඇද්ද්දෙයි තමන්ට උපන් සැකය පිළිවිස් සේය, උන්වහන්සේ වට්ටකජාතකාදි බොහෝ දම්දෙසුන් දක්වා රජහට පව්නොවන පරිදි නිශ්චය කළසේක. ඉක්බිති සත්දව සක් උයන්හි වස්වා ඒ තෙරුන්වෙත හිඳගෙණ ශාශ්වතාදි දෘෂ්ටි මේ මේ යයි තිරණයකොට ඉගෙණ දඹදිව සියලු භික්ෂූන් කැටි කරවා පැවිදිවෙස් ගෙණ භික්ෂූන්අතරම වන් සියලු තිත්ථකයන් බැහැරලා ඒ මහතෙරුන් අනුශාසනායෙහි පිහිටාගෙණ ශාසනය ශුද්ධකෙළේය—මෙසේ නෙරපූ තිත්ථකයෝ පසල්දනව් ගොස් එහි රැස්ව සංවිධාන කොට ගෙණ අබුද්ධවචනයන්ද බුද්ධ වචනයන්ද මිශ්‍රකොට වණ්ණපිටකාදි බොහෝ පොත්කොට බුද්ධසමයයි ලොවට ප්‍රකාශකළෝ—මෙහි විස්තර සමන්තපාසාදිකා සාරසඞ්ග්‍රහාදියෙන් දත්තේයි.

තවද දෙවන සඞ්ගායනාකාරක මහතෙරුන් විසින් දශවස්තුඅධිකරණ විනිශ්චයෙන් නිග්‍රහකරණුලත් වජ්ජිපුත්‍රක භික්ෂූහු දසදහසක් එක්ව පිටිසර ජනපදයට පැමිණ එහි දුර්වල රජුන් එක්කොට ගෙණ මහාසඞ්ගීතියයි නම්ලත් ශාසනාබ්බුදයක් ඉපදවූහ, මේ කථාව මහාවංසවිනය අටුවාදියෙහි ඉතාසංක්‍ෂෙපයි. දීපවංස කථාවස්තුප්‍රකරණ අටුවා දෙක්හි විස්තරව පෙණෙයි, මෙම කියනලදී දීපවංසයෙහි.

නික්කඩ්ඪිතා පාපභික්ඛූ ථෙරෙහි වජ්ජිපුත්තකා
අඤ්ඤං පක්ඛං ලභිත්වාන අධම්මවාදි බහුජ්ජනා.
දසසහස්සා සමාගන්ත්වා අකංසු ධම්මසඞ්ගහං
තස්මායං ධම්මසඞ්ගීති මහාසඞ්ගීති වුච්චති.
මහාසඞ්ගීතිකා භික්ඛූ විලොමං අකංසු සාසනෙ
භින්දිත්වා මූලසඞ්ගහං අඤ්ඤං අකංසු සඞ්ගහං.
අඤ්ඤත්‍ර සඞ්ගහිතං සුත්තං අඤ්ඤත්‍ර අකරිංසුතෙ
අත්ථං ධම්මඤ්ච භින්දිංසු * නිකායෙසුච පඤ්චසු.
පරියාය දෙසිතංචාපි අථො නිප්පරියාය දෙසිතං
නීතත්ථඤ්චෙව නෙය්‍යත්ථං පජහිත්වාන භික්ඛවො.
අඤ්ඤං සන්ධාය භණිතං අඤ්ඤං අත්ථං ඨපයිංසුතෙ
ව්‍යඤ්ජනච්ඡායායතෙ භික්ඛූ බහුං අත්ථං විනාසයුං.

---

* විනයෙ-බොහෝ පොත්හි.

ඡඩ්ඩෙත්වා එකදෙසං සුත්තං විනයගම්භීරං
පතිරූපං සුත්තං විනයං තඤ්ච අකරිංසුතෙ.
පරිවාරං අත්ථුද්ධාරං අභිධම්මං ඡප්පකරණං
පටිසම්භිදඤ්ච නිද්දෙසං එකදෙසඤ්ච ජාතකං.
එත්තකං විස්සජ්ජෙත්වාන අඤ්ඤං * නඅකරිංසුතෙ
නාමලිඞ්ගං පරික්ඛාරං අකප්පකරණීයානිච.
පකතිභාවං විජහිත්වා තඤ්ච අඤ්ඤං අකංසුතෙ
පුබ්බගමා භින්නවාදා මහා සඞ්ගීති කාරකා
තෙසඤ්ච අනුකාරෙන භින්නවාදා බහූ අහු.

මේ වජ්ජිපුත්‍රක භික්ෂූහු කාශ්මීරදනව් ගොස් එහි රජුන් පිටිව හල්කොට ගෙණ පූර්වොක්ත සඞ්ගායනාව කළහයි බෙහෝ දෙනා කියති, මෙහි සංක්ෂෙපාර්ථ නම් ( දෙවෙනි සඞ්ගායනාකරු ) තෙරුන් විසින් බැහැර කරණලද අධර්මවාදි බෙහෝදෙනෙක්වූ පාපභික්ෂූහු අනික් පක්ෂයක් ලැබගෙණ දසදහසක් සමාගම්ව ධර්මසඞ්ග්‍රහයක් කළහ. එහෙයින් ( බොහෝ ගණනක්වූ හෙයින් ) මහාසඞ්ගීතියයි කියනු ලැබෙයි. මහාසඞ්ගීතිකරු භික්ෂූහු සස්න ව්‍යාකූල කළහ. ( මහාකාශ්‍යපාදි ස්ථවිරයන් විසින් කරණලද ) මුල්සඞ්ග්‍රහය බිඳ අනික් සඞ්ග්‍රහයක් කළහ; අන්තැනෙක එක්කළ සූත්‍ර ඉන්අන්තැන තැබූහ; පස්නිකායෙහිම අර්ථසහ ධර්මය බින්දෝය, කාරණවක් සඳහා කරණලද දේසනාවද වැලි ධර්මවූ පරිද්දෙන් දේසිත දැයද අර්ථප්‍රකාශක දේසනාවද අනික් ප්‍රකාරයකින් අවබොධ කටයුතු දේසනාවද පිරිසිඳනොදත් ඒ භික්ෂූහු අනිකක් සඳහා භාෂිතයට අනික් අර්ථයක් තැබූහ. ඒ භික්ෂූහු ව්‍යඤ්ජනසෙවනැල්ලෙන් බොහෝ අර්ථවිනාස කළෝයි. තවද ඒ භික්ෂූහු සූත්‍රෙකදෙශයක්ද විනයගාම්භීර්‍ය්‍යද බැහැරලා පිළිරූ සූත්‍රහා විනයඇතිපාලියද කළෝයි. පරිවාරය අත්ථුද්ධාරය ෂට්ප්‍රකරණ අභිධර්මය ප්‍රතිසම්භිදාමාර්ගය නිර්දේශ පාලිය ජාතක සමහරෙක මෙතෙක්දෑ හැර ඒසඳහා අනිකක්ම කළහ. නාමය ලක්ෂණය පරිෂ්කාරය ආකල්පකරණයෝය ප්‍රකෘති භාවය යනමෙය හැර අනික් සිතූනක්ම කළෝය. මහාසඞ්ගීකාරකයෝ අන්‍යවාද ඇත්තාහු එබඳුවූවන්ට ප්‍රධානවූහ ඔවුන් අනුව ක්‍රියාකිරීමෙන් බොහෝවූ භින්නවාද ඇතිවූහ යනාදී විස්තර දීපවංසයෙහි සහ කථාවස්තුඅටුවායෙහි ආයේයි.

මෙසේ බිඳුනුවාද මෙහිම පස්වන පරිච්ඡෙදයෙහි පෙණෙයි උක්තප්‍රකාර බිඳුනත්ගෙන් පළමුවැන්නෝ මහාසඞ්ඝිකය මහාසඞ්ගීතිකයයිද ලබන ලද නම්ඇති වජ්ජිපුත්‍රක භික්ෂූහුමය,

ලිච්ඡවිය වජ්ජිය යන නම්දෙක ඒකාර්ථයි, ලිච්ඡවිජනපදයෙහි උපන්නන් හෙයින් වජ්ජිපුත්‍රකයයි ව්‍යවහාරයි මහත්වූ බොහෝ වූ භික්ෂුසමූහයා විසින් යුක්තබැවින් මහාසඞ්ඝිකයයිද එසේම බො හෝවූවන් විසින් කළ සඞ්ග්‍රහය හෙයින් මහාසඞ්ගීතිකයයිද කි යති. මොව්හු ආත්මවාදිබැවි "පුග්ගලො උපලබ්භති සච්චිකට්ඨ පරමට්ඨෙන" ආදීන් විස්තෘතකථාවස්තුප්‍රකරණාදියෙහි ආයේය.

තවද මොවුන්ගෙන් සමහරු රහත්හු රහත්ඵලයෙන් පිරිහී අ නාගාමිවෙති අනාගාමීහු ඉන්පිරිහී ශකෘදාගාමී වෙත් ඔව්හුද එයි න් පිරිහී සොවාන් වෙති මෙසේ සොවාන්වූවෝ ඉන්පිරිහී පෘථක් ජන වෙතැයි නොකියති. උක්තප්‍රකාර සොවාන් ඵලයතෙක් පසු බැස්සාහු ශකෘදාගාමි අනාගාමි නොව එකවටම රහත්වෙතැයි කියති. ථෙරවාදයෙන් බින් වජ්ජිපුත්තිය භික්ෂූහුද සම්මිතිය යෝද සබ්බත්ථිවාදීහුද යන තුන් පක්ෂයත් මෙමවාද ඇත්තෝයි.

ෂට්දිග බුදුවරයෝ ඇතැයියන වාදයනම් මෙසේයි; නැගෙ ණහිරි බටහිරි උතුරු දකුණු දසාහි උඩයට අනේක බුඩ ක්ෂෙත්‍රයන් අතික්‍රාන්තකොට ඉන් ඈත බුදුවරයෝ වසන්නා හයි වාද කෙරෙති නෙපාලාදියෙහි ප්‍රසිඩ සුඛවතිව්‍යූහ මහායා නසූත්‍රාදිය මොවුන්ගේ ප්‍රකරණයි—කෙබඳු වර්ණයක් ගොත්‍ර යක් ඇත්තාහුදැයි පුළුවුත්කල "නහෙවං වත්තබ්බෙ" එසේ කිය යුත්තේ නොවෙයි කියති මේවාද ඇත්තෝ මහාසඞ්ඝිකයෝයි.

බ්‍රහ්මචරිය වාසවාදය, මාර්ගභාවනාවද ප්‍රව්‍රජ්‍යාවද යන දෙක බ්‍රහ්මචරිය වාසයි. මෙයින් මාර්ගභාවනාව අසඤ්ඤසත්ත බඹුන් විනා කාමරූප අරූප දෙවියන් කෙරෙහි විද්‍යමානයි. ප්‍රව්‍රජ්‍යාව වනාහි මිනිස්ලොව හැර කොහිත් නැත්තේයි. මෙම සම්මිතිය භික්ෂූහු මාර්ගබ්‍රහ්මචරියාවත් දෙවියන් කෙරෙහි නැ තැයි ලබ්ධිඇත්තෝයි, ඒ බුඩසමයට විරුඩයි. සබ්බත්ථිවාදීහු නම් සියල්ලම විද්‍යමානයයි ලබ්ධිගත්තෝයි, එනම් අතීත අනා ගත ප්‍රත්‍යුත්පන්න ඛන්ධායතන ධාත්වාදිය ඇත්තේය විද්‍යමාන යයි යනුයි.

සතිපට්ඨානවාදීහු සියලුධර්මයෝම සතිපට්ඨානයෙහිය, මෙයින් පිටත් ධර්මයෙක් නැතැයි ලබ්ධිඇත්තෝයි. මොවුන්ගේ සාමා න්‍යනාමය කස්සපිකය අන්ධකැයිද යෙත් පුබ්බසෙලිය අපරසෙලි ය රාජගිරිය සිද්ධත්ථිකයයි නිකාය සතරෙකි—කුතකුලවාදීහු "සබ්බං භික්ඛවෙ ආදිත්තං" යනාදීන් උරුවෙලකාශ්‍යපාදී දහසක් පුරාණ ජටිල භික්ෂූන්ට රජගහනුවර සමීපයෙහි ගයාශීස අතල ගල්හිදී බුදුන් විසින් වදාරණලද ආදිත්තපරියාය සූත්‍ර නුනුවනින් සලකා අර්ථ වරදවාගෙණ මුළුතුන් ලොව සියල්ලම ඇවිලගත්

සිළුරගිත අඟුරුමුසු අළුවැන්නැයි ගන්නාලද ලබ්ධියයි, මේවාද ඇත්තෝ ගෝකුලිකයෝයි—අනුපූර්වාභිසමය වාදනම් දුඃඛාදි චතුස්සත්‍යය අවබෝධකිරීමෙන් සතරවරකින් කෙලෙස් නසා සෝවාන් ඵලයට පැමිණේයි, ඉතිරිඵලත්‍රයද මෙම නයයි. මොවුන්ගේ කල්පනාවේ ක්‍රමයට සොළොස්වරකින් රහත්ඵලය අවබෝධකටයුතුවේ, මේ වාද ඇත්තෝ පූර්වෝක්ත අන්ධකනිකාය සතරහා සබ්බත්ථිවාදිසම්මිතිය භද්‍රයානිකය යන මොව්හුයි.

නිරෝධවාදය නිවන්දෙකක් ඇතැයි ගන්නා ලබ්ධියි, මේ වාද ඇත්තෝ මහිංසාසකයන්හා අන්ධක යෝයි—උක්තප්‍රකාර තීර්ථකයන්ගේ මිථ්‍යාවාදහා ශාසනිකයන්ගේ වෛතුල්‍යවාද මර්දනය සඳහා බුදුන් විසින් සංක්‍ෂෙපයෙන් වදාළ නය විස්තරකරන්නාවූ මොග්ගලිපුත්තතිස්ස මහතෙරනුවෝ කථාවස්තුප්‍රකරණය සඟමැදවදූරා තුන්වන සඞ්ගීතියටද ඇතුළත්කළහ.

මෙසේ දෙසැත්තෑවස්ඇති මොග්ගලිපුත්තතිස්ස මහතෙරුන් විසින් දම්සෝරජු ඔටුනුපලන් පන්තිස්වනු බුඩ වර්ෂ දෙසිය සතිස්වනෙනාහිදී තුන්වන සඞ්ගායනාව කොට නිමවා මධ්‍යදෙශයෙන් බැහැර ඒ ඒ රටවල බුදුසසුන් පිහිටුවනුපිණිස මෙහි දෙළොස්වන පරිච්ඡෙදයෙහි කීපරිද්දෙන් ඒ ඒ තෙරුන් ඒ ඒ ජනපදවලට යැවූසේක.

මහාකාශ්‍යපාදී මහරහතන් වහන්සේලා විසින් කරණලද ථෙරියනම් පළමුවෙනි සඞ්ගායනාව සර්වඥයන්වහන්සේ පිරිනිවන්පෑ වර්ෂයෙහි කරණ ලද්දිය, දෙවෙනි සඞ්ගායනාව ඒ සර්වඥයන්වහන්සේගේ පිරිනිවීමෙන් අවුරුදු 100 ක් ගෙවුනකල්හි කාලාසෝක මහරජානන්ගේ රාජ්‍යයේ 10 වෙනි හවුරුදුයෙහි කරණලද්දිය, එහි බුදුන් දුටු ස්ථවිරයන්වහන්සේලා අටනමක්වූහ. ඒ අනුරුද්ධානන්දාදි මහාශ්‍රාවකයන්වහන්සේලාගේ ශිෂ්‍යයෝයි. ඒ දෙවෙනි සඞ්ගීතියෙන් වර්ෂ 135 ක්වූ කාලයෙහි තුන්වෙනිසඞ්ගීතිය මොග්ගලිපුත්තතිස්සාදී මහරහත් තෙරුන් වහන්සේලා විසින් කරණලද්දිය.

ඒ තුන්වෙනි සඞ්ගීතියයෙහි ප්‍රධානත්වය මොග්ගලිපුත්තතිස්සනම් මහරහතන්වහන්සේ විසින් දරණලද්දේය, උන්වහන්සේ සිග්ගව නම් රහතුන් වහන්සේවිසින් පැවිදිකරණ ලද්දේය චණ්ඩවජ්ජීස්ථවිරයන් වහන්සේලඟ සූත්‍රාභිධර්මාදිය ඉගෙණගත්සේක, උන්වහන්සේ පැවිදිකළ සිග්ගවතෙරුන්වහන්සේ ශොණකනම් රහතුන්වහන්සේගේ ශිෂ්‍යයෙකි, ඒ ශොණකතෙරණුවෝ දාසකනම් තෙරුන්ගේ ශිෂ්‍යයෙකි; ඒ තෙරුන්වහන්සේ වනාහි පළමුවෙනි සඞ්ගීතියේ විනය විසඳූ බුඩකාලයෙහි වැඩ

සිටි විනයධරයන් අතුරෙන් අගතන්පත් උපාලි මහතෙරුන් වහන්සේගේ ශිෂ්‍යයායි, එසේවූ කල්හි බුද්ධකාලයෙහි උපාලිස්ථවිරයන් වහන්සේගේ ශිෂ්‍යවූ දාසකස්ථවිරයන් වහන්සේ ප්‍රථම සඞ්ගීතිකාලයෙහි විසිවයස්ව වැඩසිටිසේක්නම්, දාශකස්ථවිරයන් වහන්සේට වර්ෂ 90 ක් වන කාලය බුද්ධපරිනිර්වාණයෙන් වර්ෂ 70 ක්වූ කාලයයි; උන්වහන්සේවිසින් පැවිදිකරණලද ශොණකස්ථවිරයන්වහන්සේ උන්වහන්සේගේ කාලයෙහි විසිවයස් ඇතිව වැඩසිටිසේක්නම්, දෙවෙනි සඞ්ගීතිකාලයෙහි ශොණකස්ථවිරයන්වහන්සේ, පණස්හවුරුදු වයස්ඇතෙත්යයි සිතියයුතුයි, ඒ ශොණකස්ථවිරයන් වහන්සේලඟ පැවිදිවූ සිග්ගවතෙරුන්වහන්සේ ඒ දෙවෙනි සඞ්ගීතිකාලයෙහි ළදරුභික්ෂුව වැඩසිටිබව සමන්තපාසාදිකා මහාවංසාදී පොත්වලින් ප්‍රකාශිතයි.

දෙවෙනි සඞ්ගීතිකාලයෙහි වැඩසිටි සබ්බකාමීනම් ස්ථවිරයන්වහන්සේ එකල්හි උපසම්පදාවෙන් 120 වයස් ඇතිවවැඩසිටි බව කියනලද්දේය, එහෙයින් උත්පත්තියෙන් 140 කට අඩුනොවූ බව ප්‍රකාශිතයි, එහෙයින් සිග්ගවතෙරුන්වහන්සේට 110 ක් පමණවයස වැළඳුයේනම් දෙවෙනි සඟායනාවෙන්පසු වර්ෂ 90 වක් ජීවත්ව වැඩසිටින්නට පුළුවන්වතිබුනේය, උන්වහන්සේට 108 ක් පමණකාලයෙහි මොග්ගලිපුත්තතිස්සයන්වහන්සේ උපසම්පදාව ලත්සේක්නම් ඒකාලය දෙවෙනි සඞ්ගීතියෙන් පසු වර්ෂ 88 ක්වූ බුද්ධවර්ෂයෙන් 188 ක්වූකාලයයි එසේකල්හි, ඒ අතරට තවත් හවුරුදු පසක් හැර සිග්ගවතෙරුන්වහන්සේට 103 නවූ කාලයෙහි බුද්ධවර්ෂයෙන් 183 තේදී සිග්ගවතෙරුන්වහන්සේගේ ඉදිරියෙහි මොග්ගලිපුත්තතිස්සයන්වහන්සේ උපසම්පදාව ලත්සේක්නම්, තවත් උන්වහන්සේගේ ආශ්‍රයෙහි නොහොත් උන්වහන්සේගේ සහභාගී මිත්‍රවූ චණ්ඩවජ්ජිස්ථවිරයන්වහන්සේගේ ආශ්‍රයෙහි පස්හවුරුද්දක් වසනකල, බුද්ධවර්ෂයෙන් 188 ද මොග්ගලිපුත්තතිස්ස ස්ථවිරයන්වහන්සේගේ උත්පත්තියෙන් වයස 25 ද වෙයි, ඒකාලයපටන් හවුරුදු 47 ගෙවෙනකල බුද්ධවර්ෂයෙන් 235 ක්ද මොග්ගලිපුත්තතිස්සස්ථවිරයන් වහන්සේගේ උත්පත්තියෙන් වයස 72 කද වියයුතුයි, තුන්වනසඞ්ගීතිකාලයෙහි මොග්ගලිපුත්තතිස්සස්ථවිරයන්වහන්සේ දෙසැත්තෑවයස් ඇතිබැව් “රඤ්ඤො සත්තරසෙවස්සෙ ද්වාසත්තතිසමොඉසි” යන මහාවංස පාඨයෙන් පෙණේ, නුමුත් ඒදෙසැත්තෑව උපසම්පදාවෙන්ද උත්පත්තියෙන්දැයි නොකියනලදී “ථෙරොමහල්ලකො තෙනාපි” යනාදී පාඨවලින් මොග්ගලිපුත්තතිස්සස්ථවිරයන් වහන්සේ තුන්වන ධම්මසඞ්ගීති කාලයෙහි ඉතා මහළුබැව්

ශේ, එහෙයින් ඒදෙසැත්තෑව උපසම්පදාවෙන්යයි සිතියයුතුබැවි බලවති, ඉදින් එසේනම් තෙරුන්වහන්සේ උත්පත්තියෙන් දෙයානූ වස්ඇතෙත්සි, ඒ එසේනම් මෙහිදැක්වූ හවුරුදුගණනට තවත් විස්සක්ලෑබෙයි, එසේවූකල සිග්ගවතෙරුන්වහන්සේට වයස 83 පමණ කාලයෙහි උන්වහන්සේ ඉදිරියෙහි මොග්ගලිපුත්තතිස්සාස්ථවිරයන්වහන්සේට උපසම්පදාව ලබනනට පූළුවන්ව තිබුනේය.

මෙය මෙතැන්හි අපවිසින් සඳහන්කරනනට කල්පනාකළේ දොස්තර් එච්. කැර්ණ් නම් ඉංග්‍රීසි උගතෙකු විසින් ශුඩකොට මුද්‍රිතවූ වරාහසංහිතාරම්භයෙහි යොදාතිබෙන කරුණුරහිත වාක්‍යයක් සඳහායි, ඔහුගේ වාක්‍යයෙහි සිග්ගාවතෙරුන් වහන්සේවිසින් මහණකරණලද මොග්ගලිපුත්තතිස්සයන්වහන්සේ ලඞ්කාවාසි බෞඩයන්ගේ බුඩවර්‍ෂ ප්‍රමාණයෙන් වර්‍ෂ 235 හවූ කාලයෙහි 72 කක් වයස්ඇතිව සිටීම නුපුළුවන, එසේනම් සිග්ගවාස්ථවිරයන්වහන්සේ අවුරුදු 165 ක් වයස්ඇතෙතක්වියයුතුය කියාතිබේ, මෙසේකරුණු නොවිමසා පණ්ඩිතමානිව අනුන්ට දොස්කියන යුරෝපීය උගතුන්ගේ කීම්ඇසීම අපට පුදුමයක් නොවේ, ඒ යුරෝපීයයන්ගේ බාහුල්‍යවෘත්තියෙන් පවත්නා චාරිත්‍රයෙකි.

බුඩකාලයෙහිද බුදුන් පිරිනිවන්පෑ ලඟකාලයෙහ්ද බොහෝ රහතන්වහන්සේලාට වර්‍ෂ සියයට වැඩි වයස් ගියබව හා උන්වහන්සේලා අසූවෙන් වැඩිවයසින් වෘඩවත් බ්‍රහ්මචර්‍ය්‍යාදී යහපත් චාරිත්‍රයෙන් ඉන්‍ද්‍රියබලඇතිව වීර්‍ය්‍යවත්ව වැඩසිටිබවත් නොයෙක් පූරාණ සත්‍යවූ පොත්වලින් දැනගන්ට පුළුවන්ව තිබියදී ඒ නොදැනත් නොසලකාත් මෙයාකාර වාක්‍යපොත්වල ගළපා තැබීම යහපත්ලෙස උගත් පඬිතයන්ට සිනාවට කරුණු මය, මෙයාකාර නොදනනාදෙය දනනාලෙස කියා යම් යම් තැන නැති දොස් ගොඩනැඟීම යුරෙපිය උගතුන්ගේ ස්වභාවෙන් පවත්නා චාරිත්‍රයක්බව මෙකල බුඩාගමේ පාලි පොත් ඉංග්‍රීසි අකුරෙන් මුද්‍රාකිරීමට ශුඩකොටදෙන දොක්තර් එච්. ඕල්ඩැන්බර්ග් උන්නැහේගේ ක්‍රියාවලින්ද හැඟෙන්ටතිබේ—ඔහු විසින් ශුඩකොට අච්චුගස්වනලද මහවගපොතේ මූල යොදා තිබෙන ඔහුගේ වාක්‍යයෙහි ( XXVI පිටේ ) පළමුවෙනි සඞගීතියට නිදානය කියමින් සර්‍වඥයන්වහන්සේ විසින් තමන්වහන්සේ පිරිනිවන්පාන උදයට පූර්‍ව රාත්‍රියෙහි යම්සුභද්‍රනම් පරිබ්‍රාජකයෙක් තෙම පහදවා ශ්‍රාවක කරගනනාලද්දේද, බුදුන් පිරි

නිවන්පෑ බැව් අසා ඊට සතුටුව ඒ සර්වඥයන්වහන්සේගේ කැප අකැප දක්වන ආඥාවෙන් මිදුනා යහපතැයි සිතා එහි හඬන වලප්නා භික්ෂූන්ට නොහඬව් යනාදිය කීවේ ඒ සුභද්‍රභික්ෂුතෙමේයයි කියා තිබේ—ඒ බුද්ධපරිනිර්වාණය අසා සතුටුවූ සුභද්‍ර නම් මහළු පැවිදි කරනැවැම්යෙක්ව සිට පැවිදිවූ අයෙක්බව හෙ සජ්ජකඛන්ධකයෙන් ගෙණ මෙහි දක්වනලද්දේය—ඔහුගේ පැවිදිවීම සර්වඥ පරිනිර්වාණයට වර්ෂ ගණනකට පූර්වයෙහිවූ එකකි. සුභද්‍රපරිබ්‍රාජකයා සර්වඥයන් වහන්සේගෙන් අවවාද ඇසුවේ පිරිනිවන්පානනට පැගණනකින් පූර්වයෙහිබව මහා පරිනිර්වාණ සූත්‍රයෙන්ද එහි අටුවාවෙන්ද ප්‍රකාශවේ – ඒ විස්තරයක් නොදැනත් දන්නෙකුගෙන් නොඅසාත් විකාර ලියා ප්‍රසිද්ධ කර බුද්ධාගමේ ප්‍රවෘත්ති වෙනඅන්දමකින් යුරෝපියාදීන්ට ඉගැන්වීම බලවත් අපරාධයකි—මෙයාකාර බුදුන් පිරිනිවන් පාන්ට පැගණනකට පූර්වයෙන් අවවාද කොට බුද්ධාගමට භර වාගනනාලද පූරණ පරිබ්‍රාජකවූ සුභද්‍රතෙම ඉත් වර්ෂ ගණනකට පූර්වයෙහි කරනැවැම්භාවයෙන් පහව පැවිදිවූ සුභද්‍ර වෘද්ධ ප්‍රව්‍රජිතයායයි කියන, දොක්තර් ඕල්ඩැන්බර්ග් විසින් ධර්මසඞ්ගීති ආදියගැණ කියනලද කීම් කෙසේ ගරුකටයුතුද? ඔහු විසින් මෙසේත් කියනලද්දේය, එනම්—මහා පරිනිර්වාණසූත්‍රය කළ කර්තෘ පළමුවෙනි සඞ්ගායනාවගැණ කිසිත් දැනගණසිටියේ නැත. එසේ කියන්නට කරුණුවසයෙන් දක්වන්නේ සුළුවග අවසානයෙහි මහාකාශ්‍යප ස්ථවිරයන්වහන්සේගේ වාක්‍යයකි—එහි බුදුන් පිරිනිවන් පැබැව් අසා කෙලෙස්සහිත බොහෝ භික්ෂූන් හඬනවැලපෙනකල්හි සුභද්‍රනම් බුඩ්ඪපබ්බජිතයා අයෝග්‍ය ලෙස කී කීමයි--එය මහාපරිනිර්වාණසූත්‍රයට ඇතුළත් නොකළේ ඒ සූත්‍රයේ කර්තෘ ඒ කථාව නොදන්නානිසාලු—මහාපරිනිර්වාණසූත්‍රයේ කර්තෘය කියනනාට අමුත්තෙක් නොමැත්තේය. ඒ සූත්‍රයේ ධර්මයෝද තථාගතයන් වහන්සේ විසින් දෙසිතයි, නිදානාදිය සඞ්ගීතිකාරක ස්ථවිරයන් වහන්සේලා විසින් තබනලදී. සුභද්‍රනම් මහළු පැවිද්දාහුගේ කථාව දක්වා තිබෙනෙන් පළමුවෙනි සඞ්ගීතිය කරනනාට කරුණු පෙන්වන පිණිසයි. එය සඞ්ගීති කථාවට ගැළපියයුත්තකි—මහාපරිනිර්වාණසූත්‍රයට ඇතුළත් කටයුතුධර්මයක් නොවේ—සඞ්ගීතිකාරක මහාස්ථවිරයන්වහන්සේලා විසින් ඒ ඒ කථාවෝ සුදුසු තන්හි ගළපනලද්දාහුය. ඒ යුක්තියුක්තය කිසිත් නොදන්නා දොක්තර් ඕල්ඩැන්බර්ග් විසින් කියනලද වාක්‍යය සැලකියයුතුනොවේ—බොහෝකොට කීමෙන් ප්‍රයෝජනනැතිම.

මෙහි මහාවංශ පූර්වභාගයෙහි ගාථාපනසක් උතුරුකොට ඇති පරිච්ඡේද සතිසෙකි, ගාථාගණිනින් දෙදහස් නවසිය තිප යෙකි, මහාවංසයෙහි මේ අර්ධයට ටීකාවකුත් තිබෙයි, මීට අව්රුදු සතළිසකට පමණ පූර්වයෙහිදී ජෝර්ජ්, ටර්නෝර්නම් ඉංග්‍රිසි ආණ්ඩුවේ වැඩවල යෙදීසිටි මහතෙකුවිසින් එකලට ලඞකාවේ ප්‍රසිඞ උගත් සෙංකඩගල නුවර විහාරවයෙහි තෙරුන්නාන්සේ ලාත් සමග පොත ශුඩකොට ඉංග්‍රිසි භාෂාවට නගා ඒ සමග පෙල ඉංග්‍රිසි අකුරෙන් යොදා අච්චුගසනලදී.

මේ කාණ්ඩයෙහි අනාගතිකතද සැකෙවින් මෙහි දක්වමු, පළමුවෙනි පරිච්ඡේදයෙහි සූවිසි විවරණය, බුදුබැව් පැමිණීම, තුන්වරක් ලක්දිවට වැඩීම, මහියංගන චෛත්‍යයාගේ පිහිටීම, යනාදියසි.

දෙවන පරිච්ඡේදයෙහි මහාසම්මත වංසයෙහිපටන් බුදුන්පිය ශුද්ධෝදන මහරජුදක්වා රාජපරම්පරා දැක්වීම්ආදියයි.

තුන්වන පරිච්ඡේදයෙහි ප්‍රථම සඟායනාදියයි.

සතරවැන්නෙහි දෙවන සඟායනාදියයි.

පස්වන පරිච්ඡේදයෙහි තුන්වන සඟායනාව හා ඊට උපස්ථම්භක ධර්මාශොකාදීන්ගේ කථාදිවිස්තරයි.

සවන සත්වන දෙක්හි විජයකුමාරයාගේ උත්පත්තියහා ලඞකාවට පැමිනීම් ආදියයි.

අට වැන්නෙහි විජයරජ මල්හු පිත් පඬුවාසුදෙව කුමාරයාගේ ලඞකාවට පැමිනීම, බිසවුන් ලැබීම්ආදියයි.

නවවැනෙනහි ඒ පඬුවාසුදෙව රජහුගේ දූවූ උන්මාද චිත්‍රාව හා පුතුන් දශදෙනාගේ කථායි.

දසවැනෙනහි එම උන්මාදචිත්‍රාකුමරිය පිත් පඬුකාභයකුමර හු විසින් මසිලන් අටදෙනෙකුන්හා යුදකොට ඔවුන් මරා ජය ගෙණ දැනට බසවක්කුලමයයි ව්‍යවහාරවූ අභය වැව බඳවා ලක්දිව මුළුල්ලෙහිම ග්‍රාම සීමා නියමකොට අනුරාධපුරය එලි කොට මේ ද්වීපය බොහෝසෙයින් සමෘඞකිරීමයි.

එකොළොස් වනෙනහි උන්ුපිත් මූටසීව කුමරහුගේ රාජ්‍යයහා එමරජහු පිත් දෙවැනි පෑතිස් රජුගේ කථාත් එමරජහු දම්සෝ රජුහා මිතුරුදම් පැවැත්වීම් කථාආදියයි.

දෙළොස් වනෙනහි නැවතත් දඹදිව් පවත් එනම් තුන්වන සඟායනාව කළ මොග්ගලිපුත්තතිස්ස මහතෙරුන් විසින් ඒ ඒ ප්‍රත්‍යන්ත ජනපදවල බුදුසසුන් පිහිටුවනු සඳහා නොයෙක් රට වලට තෙරුන්වහන්සේලා යැවූ පරිදිද, ඒ වැඩිය තෙරුන්නාන් සේලා පැමිනි පැමිනි ජනපදවල පැවති කථා සංක්ෂෙපයි.

තුදුස්වැන්න පටන් පරිච්ඡෙද සයෙහි මෙම දිව්හි මහණ මේ
හෙණි සසුන් පිහිටුවා ජයමහාබෝධි වැඩමවීම් ඒ ඒ තැන විහාර
දාගැප් කරවීම් ආදි ශාසනය පිහිටවූ කථාසි.

විසිවනෙනාහි ධර්මාශොකය දෙවෙනිපෑතිස්සය යන දෙදෙනා
ගේ කථරියහා එම දෙවෙනිපෑතිස් රජුමල් උත්තිය කුමරහුගේ
රජවීමද සැටවස්පිරී මිහිඳුමහතෙරුන් පිරිනිවන්පෑමහා එම
තෙරුන් නැගණි සම්මිත්තෙරනිය එකූන්සැටවස් පිරී පිරිනිවන්
පෑමත් ඉතිරි ඉෂ්ටිය සථ්විරාදීන්ගේ පිරිනිවන්පෑමත් එම උත්තිය
රජු දසඅවුරුද්දකින් කථරියකළබවත් දක්වනලදී.

එක්විසිවනෙනාහි එම උත්තියරජහුමල් මහාසීවකුමර රජව
දශ හවුරුද්දක් රජකම්කෙළේය, ඔහුඇවෑමෙන් මල් රන්පිඹු
තිස්කුමර සූරතිස්නමින් රජව දශහවුරුද්දක් රජකම් කෙළේය,
සේනය ගුත්තිකය යන අස්නැවිපුත් දෙමළ දෙදෙනෙක් සූර
තිස් රජුමරා දෙවිසිහවුරුද්දක් රජකම්කළහ, මූටසීවරජුපිත් දෙ
වෙනිපෑතිස්රජු සැමටබාලමල් අසේලකුමර ඒදෙමළුන් බැහැර
කොට දසහවුරුද්දක් රජකම්කෙළේය, එළාළනම් දෙමළකෙ
නෙක් සොළීරටින් අවුත් අසේලරජුගෙණ සතළිස්සතර හවු
රුද්දක් දැහැමින් රජකෙළේය යනාදියයි.

දෙවිසිවැනි පරිච්ඡෙදය පටන් දෙතිස්වැන්න අවසානය දක්වා
ගැමුනු රජහුවිසින් දෙමළුන් සාදා රජය එකසත් කොටගෙණ
මිරිසවැටි ලොහොපහ රුවන්වැලි දාගැප්ආදි විහාර දාගැප්කර
වා බොහෝ පින්හා ලෝවැඩකොටගෙණ ස්වර්ගගාමීවූ කථාසි.

තිස්තුන්වැනෙනාහි එක්සැටවස් නවමස් දසදිනක් ඇතුලත
ගැමුනුරජු මල් සැදැහැතිස් රජුහා ඔහුපුතුන් සතරදෙනෙකුගේ
රජයත් අනන්තරයෙහි දෙමළරජුන් පස්දෙනෙකුගේරජයත් දක්
වනලදී, තවද මහාවිහාරාරම්භයෙන් අවුරුදු දෙසියසතළොස
කින් මතුයෙහි දසමසක්හා දිනදසයක් ගියකල වට්ටගාමිනී අභ
යසි කියනලද වළගම්අබාරජුවිසින් අභයගිරිවිහාරය පිහිටවන
ලදී, ඒ කාලයෙහිපටන් ධම්මරුචිකයයි කියනලද මහාවිහාර
යෙන් බූත් බහිරිනක භික්ෂූහු ඇතිවූහු, මොවුන්ගෙන්බිඳී දෙ
නානක භික්ෂූහු ඇතිවූහු, මොවුහුම සාගලිකයයිද ව්‍යවහාරයි,
මොවුන්ගේ විහාරය දැනට ජේතවනයයිකියන දාගැබසිසාරායි
මේආදි කථාසි.

සිවුතිස්වනෙනාහි අනුපස්අවුරුදු තුන්මසක්කාලයයි. මෙහි
මාසිළු, චොරනාග, තිස්ස, සිවබලත්, පූරවඩුදෙමළ, දරකැටිතිස්,
නිලිය, අනුලා, භාතික, දාඨිය, යන එකොළොස් දෙනාරජකම්
කළහ, මෙහි සිවබලත්ආදි පස්දෙනා දාමරිකයෝයි, ඉතිරිසදෙ

නා විජයරජ පරපුරෙහි ඇත්තෝයි, සිවබලත්ආදීන්ගේ රාජ්‍ය යත් සතරඅවුරුදු දෙමසකි, මෙයින් චොරනාග රජහුවිසින් අට ළොස්මහාවිහාරය සිඳ බිඳදමනලදී, ඉතිරිසියල්ලෝ පූර්‍ණපරා යණයෝයි, යනාදිකථායි.

පන්තිස්වැන්නෙහි රජුන්දෙළොස්දෙනෙකි මෙහි දැක්වූ අඩ ගැමුනුරජුට විජයපරම්පරාවේ නෑකමක් ඇතිබව නොකියන ලදී, ඉලනාගරජුතෙමේ අඩගැමුනුරජහුගේ බෑනායි, අටවෙනි බලත්රජ දෙරටුපල් නායකයි, නවවෙනි වසභරජ ලම්බකර්‍ණ ගොත්‍රයි, දෙළොස්වෙනි මහළු නාරජ ගජබාගැමුනුරජහුගේ මෙහෙසිය පියායි, මේකීසියල්ලෝම ලෙව්සසුන් වැඩුවෝයි, මේ ආදියයි.

සතිස්වැන්නෙහි තෙළෙස් රජකෙනෙකි අවුරුදු එකසියතිස්හ යයි, මේරජුන් අතුරෙන් ව්‍යවහාරතිස්ස රජතෙමේ යහපත්කොට රාජනීති තනා ලක්දිව්වැස්සන් හිංසාවෙන් තොරකෙළේයයි පෙණෙයි, සිරිසඟබෝ රජතෙමේ පචසීලයෙන්යුක්තව දැහැමින් රජකෙරෙමින් ලඞ්කායෙහි දුර්භික්ෂකාලයෙහි සත්‍යක්‍රියාබල යෙන් වැසිවස්වා රතැස්නම් යක්ෂයා දමනය කෙළේය, යුධ පිණිස දමරිකයෙක් ආකල පවුනොකැමතිහෙයින් නුවරින් සැඟවීගොස් වනයෙහි වෙසෙමින් මාර්ගිකයෙකුට ඉසදන්දුන් නේයි, යනාදී ආශ්චර්‍ය්‍යකියනලදී.

සත්තිස්වන පූර්වාර්ධයෙහි මහසෙන්රජහුගේ කථායි, ඒ තෙ මේ සත්විසිවසක් රාජ්‍යයකෙළේය, ඒ රජතෙමේ අසත්පුරුෂ සමාගමයෙන් මහාවිහාරය විධ්වංශනය කෙළේය, අභය ඇමතියා විසින් රජුපහදවනු ලදුයේ ඒ විහාරය නැවතකළේය ජෙතවන මහදාගැබ බැඳවී, මින්නේරිවැවආදි සොළොස්වැවක් කරවී, මේආදීබොහෝ පිනුත් පවුත් කෙළේය යනාදිකථායි.

මහාවංස පූර්වාර්ධ සංක්ෂෙපය මෙතෙකින් නිමියේය.

# ERRATA.

# ශුද්ධි පත්‍රය.

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 2 | 18 | විල | විල |
| ,, | 33 | හසින් | ඉතා හසින් |
| 3 | 9 | (එකල්හි දෙවියෝ | (එකල්හි දෙවියෝ) |
| ,, | 21 | ළද්දවූ | ලද්දවූ |
| ,, | 28 | පාෂාණයකින් | පාෂාණයෙන් |
| 5 | 14 | කරුණව | කරුණවෙව්වා |
| ,, | 21 | නාගරජයෙනි | නාගරාජයෙනි |
| ,, | 33 | සිවුරු | සිවුර |
| 10 | 18 | වේවයි | වෙවයි |
| ,, | 30 | සියලු | ධුරන්ධරවූ සියලු |
| 17 | 1 | යන | යනමේ |
| 25 | 17 | තෙතෙමේ | තෙමේ |
| ,, | 27 | යෙන් | යෙන්කල්වූසේ |
| 32 | 18 | කම්පාවෙක් | කම්පාවක් |
| ,, | 19 | කම්පාවෙක් | කම්පාවක් |
| 33 | 12 | තීයේය | තියා |
| ,, | 14 | සමගි | සමගිව |
| 34 | 5 | හිජුවූ | ගිජුවූවාය |
| ,, | 17 | ඇළුනේ | ඇළුනේ ඇය |
| 35 | 32 | ප්‍රසිද්ධබැව්නුත් | සතුටුවූවෝ |
| 36 | 4 | නම | නම සියල්ලෝ පුතුන්දෙතිසෙක |
| 37 | 6 | පමනින් | පමණින් |
| 38 | 31 | ගැසුව | නැසුව |
| 39 | 3 | හෙයකින් | හෙයකින් තඹවන්බිම දුහුවි<br>ලෙලන් සපර්ශකළ |
| ,, | 32 | සැපයු | සමෘද්ධවූ |
| 40 | 19 | පුතුන | පුතුන් |
| 43 | 2–3 | මිනිසුන් | මිනිසුන් සියයක් |
| ,, | 14 | දීඝායු | දීඝායුස් |
| ,, | 15 | දීඝායුග්‍රාම | දීඝායුර්ග්‍රාම |

| පිට. | පේළි. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 43 | 37 | වැදීම්ගෙට | ඈ වැදීම්ගෙට |
| 44 | 4 | ඇතාති | ඇතී |
| 45 | 18 | මෙහෙයන | එකෙණෙහි මෙහෙයන |
| ,, | 34 | පූතු | පූතුවන්ද්‍ර |
| ,, | 36 | අස්වා | නම අස්වා |
| 46 | 9 | ඒ | එහි ඒ |
| ,, | 19 | ඒසියල්ලන් | ඕතොමෝ ඒ සියල්ලන් |
| ,, | 28 | නුවර | ගම |
| ,, | 30 | කුමර | කුමරම |
| ,, | 32 | කුමර | කුමර මහසේනාහා සමග |
| ,, | 28 | හටසේනා | එසිත් නික්ම හටසෙනා |
| 49 | 13 | කළාහුය | නිබඳ කළාහුය |
| ,, | 16 | පෙළ | පෙළ එකල |
| 51 | 25-26 | නානාදුකවෘතත | නානාදුකවත්තා |
| 52 | 18 | වප් | ඉල් |
| 54 | 12 | ප්‍රාණීන්ට | මිනිසුන්ට |
| ,, | 36 | ජලරාක්ෂසියක් | එකල වනාහි ජලරාක්ෂසියක් |
| 56 | 11 | මේ | ඒ |
| 58 | 11 | මමමය | වහන්ස මමමය |
| 59 | 38 | උන් | මුන් |
| 61 | 33 | සතුටුවූයේය | සතුටුවූයේය මහජනතෙම<br>තුටුපහටුවිය |
| 62 | 17 | රජගෙට | රජගෙට වැඩ ඊට |
| 67 | 8 | මෙහිම | එහිම |
| 71 | 25 | සීමාව | සීමාව සමකාල්හි |
| 75 | 14 | නුවරට | පිඬුපිණිස නුවරට |
| 76 | 14 | දරමින් | දරවමින් |
| 82 | 25 | ප්‍රාතිහාර්‍ය්‍යයෝ | ප්‍රාතිහාර්‍ය්‍යයෝද |
| 84 | 20 | සිටියාවූ | ඇඳිලිබැඳසිටියාවූ |
| 85 | 1 | පටන් | පටන් ආදරසහිතව |
| ,, | 7 | යසි | යනනමින් |
| 86 | 24 | ජනයෙද | ජනයෝද |
| 90 | 18 | බහා | යුහුව බහා |
| 92 | 13 | රාජ්‍යයෙන් | රාජාභිෂෙකයෙන් |
| ,, | 33 | ලිහිණිතොම | ලිහිණිතොමගොස් |
| 93 | 7 | එහි | හෙතෙම එහි |

| පිට. | පෙළ. | අශුඩ. | ශුඩ. |
|---|---|---|---|
| ,, | 24 | මුක්තාබැවින් | මුක්තපමණින් |
| 94 | 20 | මුත්තාසේ | ආයසී |
| 95 | 17 | ඝත්තාය | ගත්තාය |
| 96 | 29 | නැගී | නැගීඔහු |
| 98 | 8 | දේවිය | දේවියගොස් |
| 99 | 10 | බඩුසහිත | ස්වකීය යෝධයෝ |
| 101 | 37 | පෙළීය | හෙළීය |
| 102 | 1 | කුඹිංගත | කුටුඹියගත |
| ,, | 24 | උස් | උස්උස් |
| 103 | 4 | කුරුවෙත | කුමරුවෙත |
| ,, | 10 | වැවක් | මහවැවක් |
| 104 | 20 | කොට | කොට එකල |
| 105 | 8 | සපපදුරු | කප්කදුරු |
| 106 | 3 | චාලනය . | ඔහු චාලනය |
| ,, | 31 | ස්ථවිර | ඒස්ථවිර |
| 108 | 23 | නම්වී | නමින් පතළවී |
| 109 | 5 | ලහටුලූකල | ලූලහටු දුමන කල |
| 112 | 14 | විචාළේය | ඔහු විචාළේය |
| 114 | 25 | කරවූයේය | කරවූයේය ඒස්තූපය සිසාරා විහාරයක්ද කරවීය |
| 115 | 19 | ඉක්බිතෙතන් | ඉක්බිති ඒ රජතෙම |
| ,, | 26 | නැවතද | නැවතද නානාරත්නාලඞ්කෘත |
| 116 | 21 | අම්බඨක | අම්බලඞ්ක |
| 117 | 10 | ටැඹින් | රුවන්මුවාටැඹින් |
| ,, | 12 | වේදිකාවක් | පබලුවේදිකාවක් |
| 118 | 20 | උදාරවූ | අතිඋදාරවූ |
| 119 | 4 | අණකෙළේය (කීනැනට) | ගැමුනුරජතෙම චෛත්‍යයට ගැඩොල් පිණිස සිතූයේය |
| ,, | 12 | මෙසේ | හෙතෙම මෙසේ |
| 163 | 9 | මිහිපල් | ඒ මිහිපල් |
| ,, | 33 | ගෙණ | ගෙණ දකුණුදොරින් |
| 164 | 1 | නැවත | නැවත රජහට |
| ,, | 22 | පිළිම | පිළිම තුණක් |
| 165 | 27 | පිදීය | මහසෑයෙහි පිදීය |
| 166 | 7 | සත්තිස් | සත්විසි |
| 167 | 23 | නුවරට | නුවරටම |
| 168 | 11 | මහඇමැති | විනිශ්චය මහඇමැති |

# INDEX.

# මහාවංසය.

## ශුචිපත්‍රය.

| රජ ගණන. | පිටු | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රාජ වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| | 71 | 12 | අනුරාධපුරයෙහි මහා සීමා බන්ධනය | | | | |
| | 75 | 31 | එහි චෛත්‍ය පිහිටුවීම | | | | |
| | 79 | 31 | මහබෝ ආදීන් ලක්දිවට වැඩමවීමට දඹදිවින් පිටත්කිරීමාදිය | | | | |
| | 83 | 26 | මහබෝ ආදීන් ලක්දිවට වැඩමවීමේ විස්තරකථාව | | | | |
| | 88 | 21 | මහබෝ පිහිටුවීමාදියේ කල්නියමය | | | | |
| | 90 | 2 | දෙවැනි පෑතිස් රජහුගේ කාලක්‍රියාව | | | | |
| 8 | ,, | 4 | උත්තිය රජහුගේ රාජ්‍යය | 277 | 10 | 0 | 0 |
| | ,, | 5 | මිහිඳුමාහිමියන් පිරිනිවීමාදිය | | | | |
| 9 | 91 | 29 | මහාසිවරජහුගේ රාජ්‍යය | 287 | 10 | 0 | 0 |
| 10 | 92 | 1 | සූරතිස්ස | 297 | 10 | 0 | 0 |
| 11 | 92 | 15 | සේනය ගුත්තිකය යන දෙදෙනා | 307 | 22 | 0 | 0 |
| 12 | ,, | 18 | අසේල | 329 | 10 | 0 | 0 |
| 13 | ,, | 21 | එළාරදෙමළ | 339 | 44 | 0 | 0 |
| | ,, | 25 | ඔහුගේ ඍජුභාවාදිය | | | | |
| | 93 | 29 | දුටුගැමුණු කුමරහු පිළිවෙළ කථාහා මහානාග යටාලතිස්සාදීන් පිළිබඳවූ කථා | | | | |
| | 95 | 5 | දුටුගැමුණු කුමරහුගේ උත්පත්තිකථා | | | | |
| | 97 | 23 | තිස්සකුමරහු උත්පත්ති කථා | | | | |
| | 98 | 23 | දුටුගැමුණු කුමරහුගේ මහායොධයන් දසදෙනා පිළිබඳ කථාදිය | | | | |
| | 104 | 1 | දුටුගැමුණු තිස්ස කුමාර දෙදෙනාගේ යුද්ධාදිකථා | | | | |
| | 107 | 14 | දුටුගැමුණු කුමරුගේ දෙමළුන්හා යුද්ධ | | | | |

| රජ ගණන. | පිටු | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රජ වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| 14 | 112 | 22 | දුටුගැමුණු රජහුගේ රාජ්‍යය | 383 | 24 | 0 | 0 |
| | 113 | 32 | ථෙරපුත්තාභය යෝධයාගේ පැවිදිවීම | | | | |
| | 114 | 9 | මිරිසවැටිවිහාරය කිරීම | | | | |
| | 115 | 19 | දුටුගැමුණු රජහු සඳහා පූර්වයෙහි කියනලද වාක්‍ය ශ්‍රවණය | | | | |
| | 116 | 3 | ලෝවාමහාපාය කරවීම | | | | |
| | 118 | 19 | මහබෝපූජා | | | | |
| | ,, | 23 | දුටුගැමුණු රජහුවිසින් මහසෑය කරවීමට ආරම්භකිරීම | | | | |
| | 119 | 3 | මහසෑය කරවීමට උපකරණලැබීම | | | | |
| | 121 | 7 | මහසෑය කරවීමේ ආරම්භය | | | | |
| | 122 | 10 | ථූපාරාමයෙහි සැණකෙළි පූජාදිය | | | | |
| | 125 | 11 | මහසෑය කරවීම | | | | |
| | 128 | 15 | ධාතුගර්භරචනා විස්තරය | | | | |
| | 130 | 26 | ධාතුනිධානයේ විස්තර කථාව | | | | |
| | 137 | 28 | දුටුගැමුණු රජහුගේ ස්වර්ගප්‍රාප්තිය | | | | |
| 15 | 142 | 10 | සද්ධාතිස්සරජහුගේරාජ්‍යය | 407 | 18 | 0 | 0 |
| | ,, | 18 | සද්ධාතිස්සාදීන්ගේපින්කම් | | | | |
| 16 | 143 | 10 | ථූලත්ථන හෙවත් තුලුනරජහු රාජ්‍යය | 425 | 0 | 1 | 10 |
| 17 | ,, | 16 | ලජ්ජිතිස්ස හෙවත් ලඳුතිස් | 425 | 9 | 8 | 0 |
| 18 | ,, | 32 | ඛල්ලාටනාග | 434 | 6 | 0 | 0 |
| 19 | 144 | 2 | පළමුවෙනි වට්ටගාමිනී අභය | 440 | 0 | 5 | 0 |
| 20 | 145 | 10 | පුලහත්ථ | 441 | 3 | 0 | 0 |
| | ,, | 12 | බාහිය | 444 | 2 | 0 | 0* |
| | ,, | 14 | පණයමාර | 446 | 7 | 0 | 0 |
| | ,, | 16 | පිළයමාර | 453 | 0 | 7 | 0 |
| | | | දාඨිය ( යන දෙමළ පස් රජුන් | 453 | 2 | 0 | 0 |

* මේ පස්දෙනාගේ රාජ්‍යවර්ෂ 14 මාස 7.

| රජ ගණන. | ගු | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රජ වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| 21 | 146 | 16 | (නැවත) වට්ටගාමිනිඅභය | 455 | 12 | 0 | 0 |
| 22 | 148 | 1 | මහසිළුමහතිස් | 467 | 14 | 0 | 0 |
| ,, | ,, | 3 | ඔව්හු පින්කම් | | | | |
| 23 | ,, | 18 | චොරනාගරජහු රාජ්‍යය | 482 | 12 | 0 | 0 |
| 24 | 148 | 25 | කුඩාතිස්රජහු රාජ්‍යය | 494 | 3 | 0 | 0 |
| | ,, | 31 | සිවබලත් | 497 | 1 | 2 | 0 |
| | ,, | 35 | වටුකදෙමළ | 498 | 1 | 2 | 0 |
| 25 [illegible] | 149 | 3 | දරකැටිතිස් | 499 | 1 | 1 | 0† |
| | ,, | 9 | නිලියබමුණු | 500 | 0 | 6 | 0 |
| | ,, | 13 | අනුලාබිසව | 501 | 0 | 4 | 0 |
| 26 | ,, | 17 | මකලන්තිස් (කාලකණ්ණිතිස්ස) | 502 | 22 | 0 | 0 |
| | ,, | 18 | ඔහුගේ පින්කම් | | | | |
| 27 | ,, | 30 | භාතිකාභයරජහු රාජ්‍යය | 524 | 28 | 0 | 0 |
| | ,, | 33 | ඔහුගේ පින්කම් | | | | |
| 28 | 151 | 13 | මහාදාඨිය මහානාගරජහු රාජ්‍යය | 552 | 12 | 0 | 0 |
| | ,, | 15 | ඔහුගේ පින්කම් | | | | |
| 29 | 152 | 31 | අමණ්ඩගාමනි අභයරජහුගේ රාජ්‍යය | 564 | 9 | 0 | 0 |
| 30 | 153 | 14 | කණිජානුතිස්ස | 573 | 3 | 0 | 0 |
| 31 | ,, | 20 | චූළාභයතිස්ස | 576 | 1 | 0 | 0 |
| 32 | ,, | 24 | සීවලීකුමරිය | 577 | 0 | 4 | 0 |
| | | 32 | රාජ ශූන්‍යකාලය | 577 | 3 | 0 | 0 |
| 33 | 154 | 9 | ඉලනාගරජහු රාජ්‍යය | 581 | 6 | 0 | 0 |
| 34 | 155 | 7 | සඳමුහුනු (චන්‍දමුඛ) | 587 | 8 | 0 | 0 |
| 35 | ,, | 13 | යසලාලකතිස්ස | 595 | 7 | 8 | 0 |
| 36 | ,, | 24 | සුභනම්බලත් | 602 | 6 | 0 | 0 |
| 37 | 156 | 11 | වැහැප් (වසභ) | 609 | 44 | 0 | 0 |
| 38 | 158 | 14 | වඞ්කනාසිකතිස්ස | 653 | 3 | 0 | 0 |
| 39 | ,, | 18 | 1 වෙනි ගජබාගැමුනු | 656 | 22 | 0 | 0 |
| 40 | ,, | 31 | මහලුනා (මහල්ලකනාග) | 678 | 6 | 0 | 0 |
| 41 | 159 | 6 | දෙවෙනි භාතියතිස්ස | 684 | 24 | 0 | 0 |
| 42 | ,, | 15 | කණිට්ඨතිස් (කණිට්ඨතිස්ස) | 708 | 28 | 0 | 0 |

† අනුලාවගේ ස්වාමිපුරුෂ සතරදෙනාට ඇත්තේ—වර්ෂ 4 මාස 1,

| රජ ගණන. | පිටු | පෙළ. | පවෘත්ති. | බුද්ධ වර්ෂ. | රජ වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| 43 | 160 | 5 | සුළුනා (චූළනාග) | 736 | 2 | 0 | 0 |
| 44 | ,, | 6 | කුඩ්ඩනාග | 738 | 1 | 0 | 0 |
| 45 | ,, | 14 | පළමුවෙනි සිරිනාග | 739 | 19 | 0 | 0 |
| | ,, | 15 | ඔහුගේ පින්කම් | | | | |
| 46 | ,, | 22 | වොහාරතිස්සරජහු රාජ්‍යය | 757 | 22 | 0 | 0 |
| | ,, | 28 | ඔහුගේ පින්කම් | | | | |
| 47 | 161 | 26 | අභයනාග | 779 | 8 | 0 | 0 |
| 48 | 161 | 31 | දෙවෙනි සිරිනාග | 787 | 2 | 0 | 0 |
| 49 | ,, | 36 | විජය නොහොත් විජසිඳු | 789 | 1 | 0 | 0 |
| 50 | 162 | 14 | 1 වෙනි සංඝතිස්ස | 790 | 4 | 0 | 0 |
| 51 | ,, | 32 | { පළමුවෙනි නොහොත් දැහැම්සිරි සඟබෝ | 794 | 2 | 0 | 0 |
| | ,, | 35 | ඔහුගේ ආශ්චර්‍ය්‍යකම් | | | | |
| | 163 | 31 | ඔහුගේ හිස දන්දීම | | | | |
| 52 | 164 | 11 | ගොඨාභය රජහු රාජ්‍යය | 796 | 13 | 0 | 0 |
| | ,, | 12 | ඔහුගේ පින්කම් | | | | |
| 53 | 165 | 10 | දෙටුතිස් රජු රාජ්‍යය | 809 | 10 | 0 | 0 |
| 54 | 166 | 7 | මහසෙන් | 819 | 27 | 0 | 0 |
| | ,, | 12 | ඔහුවිසින් මහාවිහාරය නැසීමාදි ප්‍රවෘත්ති | | | | |

**නි මි.**

මහාවංශ ද්විතීයභාගයෙහි, මහාවිජයබාහු මහාරජානන්ගේ රාජ්‍යය. 55. පොතේ ලියවීතිබෙන නමුත් පටුනෙහි-50 හේ ඉලක්කම යෙදී තිබේ. එතැන්පටන් බුද්ධවර්ෂය-පසකින් අඩුව්ගණ ගොස් සත්වෙනි පණ්ඩිතනාමාදි පරාක්‍රමබාහු රජුගේ කාලයෙන් මතෙත්‍යාහි සමව යෙදී තිබෙනබැව් දතයුතු.

# නමො තස්ස භගවතො අරහතො සම්මාසම්බුද්ධස්ස.

---

# ම හා වං ශ ය.

## 1 වෙනි පරිච්ඡෙදය.

ශුද්ධවංශයෙහි උපන් (සකලක්ලේශයන් කෙරෙන්) අත්‍ය
න්ත පරිශුද්ධවූ සර්වඥයන් වැද නොඅඩු නොයෙක් පරි
2 ච්ඡෙද ඇත්තාවූ මහාවංශය කථනය කරන්නෙමි.——මේ
වංශයතෙම පුරාතනයන් විසින් කරණලද්දේ නමුත් කිසි
තැනෙක්හි ඉතා විස්තරකරණ ලද්දේය, කිසිතැනෙක්හි
අතිශයින්ම සඞ්ක්ෂෙපකරණ ලද්දේය, නොයෙක් පුන
3 රුක්ත දෝෂ ඇත්තේය.——ඒ දෝෂයින් තොරකරණලද්දාවූ
[එහෙයින්ම] සුවසේ ග්‍රහණධාරණ කටහැකිවූ ප්‍රසාදසං
වෙගජනකවූ පරම්පරායාතවූද ඒ මහාවංශය (කථනය
4 කරන්නෙමි. සජ්ජනයෙනි තෙප්) ප්‍රසාද උපදවන්නාවූ
තන්හිද එසේම සංවෙගජනකතන්හිද පහන්සිත්හා භය
කම්පා උපදවමින් ශ්‍රවණයකරව්.

5 මහාවීරවූ අපගේ සර්වඥතෙම පූර්වයෙහි දීපඞ්කරනම්වූ
සම්බුදුන් දැක ලෝකයා දුකින් මුදනු සඳහා සම්‍යක්සම්බෝ
6 ධියපිණිස ප්‍රාර්ථනා කළසේක. ඉක්බිත්තෙන් එම සම්බුදුන්
හා කොණ්ඩඤ්ඤනම් බුදුන්ද, මඞ්ගලනම් බුදුන්ද, සුමන
7 නම් බුදුන්ද, රෙවතනම් බුදුන්ද, සොභිතනම් බුදුන්ද,
අනොමදස්සීනම් බුදුන්ද, පදුමනම් බුදුන්ද, නාරදනම්
8 බුදුන්ද, පදුමුත්තරනම් බුදුන්ද, සුමෙධනම් බුදුන්ද, සුජාත
නම් බුදුන්ද, පියදස්සීනම් බුදුන්ද, අත්ථදස්සීනම් බුදුන්ද,
ධම්මදස්සීනම් බුදුන්ද, සිද්ධත්ථනම්බුදුන්ද, තිස්සනම් බුදුන්ද,
9 එසේම ඵුස්සනම් බුදුන්ද, විපස්සීනම් බුදුන්ද, සිඛීනම්
බුදුන්ද, වෙස්සභූනම් බුදුන්ද, කකුසන්ධනම් බුදුන්ද, කො
10 ණාගමනනම් බුදුන්ද, කාශ්‍යපනම් බුදුන්ද, යන සූවිසි
සම්‍යක්සම්බුද්ධයන් ආරාධනාකොට උන්වහන්සේලා විසින්
11 “සියලු (සමත්‍රිංශත්) පාරමිතාවන් පුරා උතුම්වූ සම්‍යක්ස

බොධියට පැමිණ උතුම් ගෞතමනමින් බුදුව සත්වයන්
12 දුකින් මුදන්නේය" යි සම්‍යක්සම්බොධිය පිණිස ප්‍රකාශක
රණලද්දේය. ඒ මහාමුනිතෙමේ මගධරට උරුවෙල්ද
13 නව්වෙහි බෝමුලදී වෙසගපුර පසළොස් වක්හි උත්තමවූ
සම්බොධියට පැමිනියේ. ඒ සර්වඥවසීතෙම උතුම්වූ විමු
14 ක්තිසුඛය වින්දේ ඒ මධුරභාවයද දක්වන්නේ සත්සති
යක් මුළුල්ලෙහි වාසයකළසේක. ඉක්බිත්තෙන් බරණැ
15 සට වැඩ ධර්මචක්‍රය පැවැත්වූසේක. එහි වස්වසන සේක්ම
සැටනමක් රහත්කළසේක. සර්වඥතෙම ධර්මදෙශනා ක
රණු පිණිස ඒ භික්ෂූන් යවා ඉක්බිත්තෙන් (ඔවුනොවුන්)
16 යහළුවූ භද්‍රවර්ගික රජදරුවන් තිස්දෙනෙක් (සොවාන්
පලාදිය දීමෙන්) හික්මවා කාශ්‍යපාදි ජටිලයන් දහස
දමනයකරණුපිණිස ඔවුන් නුවන මුහුකරවමින් හෙමන්ත
කාලයෙහි උරුවෙල්දනව්වෙහි වාසය කළසේක.

17 ශත්‍රුමර්දනය කරණශීලිවූ සර්වඥතෙම උරුවෙල් ක
සුප්නම් ජටිලයාගේ මහායාගය එළඹසිටි කල්හි තමන්
18 නොර්මෙහිවූ උහුගේ ඉච්ඡාචාරය දැන උතුරුකුරුදිවයි
නෙන් පිණ්ඩපාතය ගෙණවුත් අනවතප්තනම් විලසමීප
19 යෙහිදී වළඳා තෙමේ සවස්වේලෙහි සම්‍යක්සම්බොධියෙන්
නවවනමස දුරුතුපුර පසළොස්වක්හි ලඞ්කාවීපය ශුද්ධක
20 රණු පිණිස ලක්දිවට පැමිනිසේක. සර්වඥයන්වහන්
සේවිසින් ලඞ්කාතොමෝ සසුන් බබලන තැනෙකැයිද
යකුන්විසින් පිරුණු ලක්දිව යක්ෂයෝ බැහැර කටයුතු
21 යයිද දන්නා ලදී. ලඞ්කාවීපමධ්‍යයෙහි මනොරම්‍යවූ ගං
ඉවුරෙහි තුන්යොදුන් දිගු එක්යොදුන් පුළුල්වූ රම්‍යවූ මහා
22 නාගවනනම් උයනෙහි යක්ෂයන්ගේ යුද්ධභූමියෙහි ලක්
දිව්වැසි යකුන්ගේ මහානිසාචර සමාගමය ප්‍රසිද්ධමය.

23 ඒ මහා යක්ෂසමාගමයට පැමිනි සර්වඥතෙම එහි
24 සමාගම මැද ඔවුන්ගේ හිස්මතුයෙහි මහියඞගන ථූප
යාගේ ස්ථානයෙහි අහස්තුස වැඩසිටිසේක් ඔවුන්ට භයජන
25 කවූ වර්ෂාවාතාන්ධකාරාදිය මැවූසේක. බියෙන් පෙළුනාවූ
ඒ යක්ෂයෝ නිර්භයවූ තථාගතයන් වහන්සේගෙන් අභය
ඉල්වූහ. අභයදායීවූ තථාගතයන්වහන්සේ භයින් පීඩිතවූ
26 ඒ යකුන්ට මෙසේ වදාළසේක "යක්ෂයෙනි, තොපගේ මේ
භය හා දුක් මම පහකරන්නෙමි, තොපි සමගිව මෙතන්හි
27 මට හිඳිනා තැනක් දෙන්නහුද නොදෙන්නහුද?" "නිදු
කානෙනි, නුඹවහන්සේට මේ සියලුම ලක්දිව දෙම්හ අපට
අභය දුනමැනවැයි" ඒ සියලුම යක්ෂයෝ තථාගතයන්

28 වහන්සේට කිවූය. ඔවුන්ගේ බියද ශීතද අන්ධකාර
යද නසා ඒ දුන් භූමියෙහි පත්කඩ අතුට එහි වැඩ
29 හුන් සර්වඥතෙම එතැනින් ඒ පත්කඩ ගිනිගෙණ දිළි
යෙන්නක්කොට හාත්පසින් විසාලකළසේක. ග්‍රීෂම
30 යෙන් පීඩතවූ ඒයක්‍ෂයෝ බියපත්ව (ලක්දිව්) අනතයෙහි
හාත්පසින් සිටියෝය. ඉක්බිත්තෙන් සර්වඥයන්වහන්සේ
ඔවුන්ට රම්‍යවූ ගිරිදිවයින මෙහි ලංගාකළසේක. උන් එහි
31 වන්කල තිබූනතන්හිම තැබූසේක. සර්වඥතෙම ඒ පත්
කඩ හැකුළූසේක. (එකල්හි දෙවියෝ සර්වඥයන්වහන්
සේකරා) පැමිණියෝය. ඒ සමාගමෙහි ශාස්තෘන්වහන්
32 සේ ඔවුන්ට ධර්මදෙශනා කළසේක. නොයෙක් කෙළග
ණන් සත්වයන්ට සොවාන්ඵලාදියෙන් ධර්මාවබොධවූයේය.
සඞ්ඛ්‍යාපථාතීත සත්වයෝ තිසරණ පන්සිල් පිහිටියෝය.

33 සමන්තකූටපර්වත වාසීවූ මහාසුමනනම් දෙවිරජ
තෙම සෝවාන්පලයට පැමින පූජාහීවූ සර්වඥයන් වහන්
34 සේගෙන් පූජනීයවූ හිසිවක් ඉල්විය. සත්වයන් කෙරෙහි
හිතවූ නිලනිර්මල කෙශවත්වූ සර්වඥතෙම හිස පිරිමැද
35 කෙශයන් අත්ලක් පමණ ප්‍රදානය කළසේක. ඉක්
බිත්තෙන් හෙතෙම එය ස්වර්ණමයවූ උතුම් කරඬුවකින්
36 ගත්තේ සර්වඥයන්වහන්සේ වැඩහුන් තැන්හි කරණ
ළද්දාවූ, අයම්විතරින් සත්රියන්වූ අවටින් එක්විසිරියන්
නත්වැදූරුම් රුවන්රුසෙහි තබා හෙතෙම ඉන්ද්‍රනීලමයවූ
37 ථූපයකින් වසා නමස්කාර කෙළේය (නැවත) "සර්වඥයන්
වහන්සේ පිරිනිවිකල්හි ශාරීපුත්‍රස්ථවිරයන්වහන්සේගේ
38 ශිෂ්‍යවූ මහත් සෘද්ධි ඇති සරභූනම් ස්ථවිරතෙම දරසැයෙන්
සර්වඥ ග්‍රීවාස්ථිධාතුව සෘද්ධියෙන් රැගෙණ (මෙහි) ගෙණ
39 වුත් එම චෛත්‍යයෙහි තබා භික්ෂූන් විසින් පිරිවරණලද්
දේ මෙදෛවර්ණ පාෂාණයකින් වස්වා දොළොස්රියන් උස
දාගැබක් කරවා වැඩිසේක.

40 දෙවැනිපෑතිස් මහරජනත් සහෝදර උඩ්ඩූලාභයනම්
41 කුමාරතෙම අද්භූතවූ ඒ චෛත්‍යය දැක වස්වා තිස්රියන්
උස්වූ චෛත්‍යයක් කරවිය. එහි සිට දෙමළුන් මඩ
42 නා දුටුගැමුණුරජතෙම ඊට අසූරියන් කඤ්චුක චෛත්‍ය
යක් කරවීය. ඒ මේ මහියගන ථූපයතෙම මෙසේ පිහි
43 ටියේය* නිර්විකාරප්‍රඥසම්පනන මහත් වීරපරාක්‍රම ඇ

---

* සර්වඥයන්වහන්සේ මහියගනයට වැඩියාවූ කථාවිස්තරවහා එහි පසුව දා
ගැබ පිහිටි ප්‍රවෘත්තිය ගලපතලදී.

ති ධර්මයට ඊශ්වරවූ සර්වඥයන්වහන්සේ මෙසේ මේ ද්වීප ය මනුෂ්‍යයන්ට යොග්‍යකොට උරුවෙල්දනවුවටම වැඩි සේක. —— මහියඩ්ගනාගමන කථා නිමි.

44 පස්මරුන් දිනූ මහත් කරුණා ඇත්තාවූ සියලු ලෝවැස් සත්ගේ වැඩෙහි ඇලුනාවූ ශාස්තෘවූ සර්වඥයන්වහන්සේ සම්‍යක්සම්බෝධියෙන් පස්වෙනි වස ජේතවනවිහාරයෙහි
45 වැඩවසනසේක්, මහොදර නාගය එසේම චූළොදරනාගය
46 යන පිරිස් සහිතවූ නාගයන්ගේ මිණිපළඟ හේතුකොට
47 එළඹ සිටියාවූ යුද්ධය දැක, චක්මස අමාවක් පොහෝදින උදය කාලයෙහිම උතුම්වූ පාසිවුරු ගෙණ නාගයන්ට
48 අනුකම්පා පිණිස නාගදීපයට වැඩිසේක. එකල්හි මහත් සෘද්ධිමත්වූ ඒ මහෝදරනම් නාගතෙමේ මුහුද පන්සියයක්
49 යොදුන් අයම් නාගභවනයෙහි රජවී. උහුගේ නැගනියතොම කන්වඩමන්නම් පව්වෙහි නාරජහට දෙන
50 ලද්දීය. උහුගේ පුත්‍රතෙම චූළොදරනම්. උහුගේ මෑනි
51 යන් පියවූ නාරජතෙම උතුම්වූ මිණිපළඟ මෑනියන්ට දී කාලක්‍රියා කෙළේය. එසේහෙයින් මසිල් නාරජු හා බෑන
52 නුවන්ගේ යුද්ධයතෙම එළඹසිටියේය, පර්වත වාසීවූද ඒ නාගයෝ මහත් සෘද්ධිමත්වූහ, සම්ද්ධි සුමනනම් දෙවි තෙමේද ජේතවනයෙහි පිහිටි තමන් යහපත් භවන
53 යවූ කිරිපලුරුක බුද්ධානුමතියෙන්ම ගෙණ ඡත්‍රාකාර යෙන් සර්වඥයන් මත්තෙහි දරන්නේ ඒ පෙර විසූ ස්ථාන
54 යට ආයේය. ඒ දෙවිතෙම අනතුරු බැවෙහි නාගදීප යෙහි මනුෂ්‍යයෙක් විය, හෙතෙම කිරිපලුරුක පිහිටි
55 තන්හි බොජුන් වළඳනා පසේබුදුවරයන් දුටුයේය. ඒ දැක සිත්පැහැද පාත්‍රයන් සුද්ධකිරීමෙහි ශාඛාවන් උන්වහන්
56 සේලාට දුන්නේය, ඒ කර්මයෙන් හෙතෙම මනොඥවූ ජේතවනයෙහි දොරකොටු පස ඒ රුකෙහි උපන.
57 හෙතෙම පසුව ඉන් පිටවූයේය. දෙවාතිදෙවවූ සර්වඥතෙම ඒ දෙවියාගේ අභිවෘද්ධියද බලා හිතපිණිස ඒ
58 දෙවියාද වෘක්ෂයද මෙහි පැමිනවූසේක, මොහාන්ධකාර නසන්නාවූ සර්වඥතෙම එහි යුද්ධ මධ්‍යයෙහි අහස වැඩහුන්නේ ඒ නාගයන්ට භය එලවන්නාවූ අන්ධකාරයක්
59 මවාපෑසේක. (සර්වඥයන්වහන්සේ) බියෙන් පෙළුනා ඒ (නයින්) අස්වසන්නේ ආලෝකයක් පෑනිරවූසේක. සර්ව
60 ඥයන් දැක සතුටුවූ ඒ නාගයෝ සර්වඥයන්වහන්සේගේ පා වැන්දෝය, පස්මරුන් දිනූ සර්වඥතෙම සමගිකරන්නාවූ ධර්මයන් ඔවුන්ට දෙශනා කළසේක. සතුටුවූ ඒ දෙදෙනම

61 මිණිපළඟ සර්වඥයන්වහන්සේට ප්‍රදානය කළහ. ලෝක
නායකවූ ශාස්තෘතෙම එහි බැස අස්නෙහි වැඩහිඳ, ඒ
නාගරාජයන් විසින් දිව්‍යාහාරපානයෙන් සතපන ලත්
62 සේක් දිය වැසිවූද ගොඩ වැසිවූද අසූකෙළක් නයින්
63 තුන්සරණයෙහිද සීලයෙහිද පිහිටවූසේක, මහෝදරනම්
නාගයාගේ මයිල්වූ මණිඅක්ඛිකනම්වූ කැළණියෙහි නා
64 රජතෙම යුද්ධකරණු පිණිස එහි ගියේය, සර්වඥයන්
පළමු මෙහි වැඩිකල සද්ධර්මදෙශනාව අසා සරණසීල
යෙහි පිහිටියේ එහිදී (මෙසේ) තථාගතයන්වහන්සේට
65 ආයාචනාකරන්නේ "ස්වාමීන්වහන්ස ! මේතෙමේ නුඹව
හන්සේ විසින් අපට කරණලද මහත්වූ අනුකම්පාවෙක,
66 නුඹවහන්සේ මෙහි නොපැමිනිසේක්නම් අපි සියල්ලෝ
අලුවම්හ. පූර්ණහෘදය ඇත්තාවූ තථාගතයන්වහන්ස ! මා
කෙරෙහිද වෙන්වශයෙන් නුඹවහන්සේගේ කරුණාව
67 නැවත මෙහි ආගමනයෙන් මාගේ වාසභූමියට වඩිනා
සේක්වා" යි කීයේය. භාග්‍යවතුන්වහන්සේ තූෂ්ණීම්භා
68 වයෙන් මෙහි ආගමනය ඉවසා රාජායතන චෛත්‍යය
එහිම පිහිටවූසේක ලෝකස්වාමීතෙම ඒ කිරිපළුරුකද
මහරු මිණිපළඟද නමස්කාරකරණු පිණිස නාරජුන්ට ප්‍රදා
69 නය කළසේක, නාගරජයෙනි, මාගේ පරිභොගචෛත්‍යය
වඳිව්, නාගයෙනි එය තොපට වැඩපිණිසද සැපපිණිසද
70 වන්නේය" යනමේ ආදිවූ අනුශාසනා නාගයන්ට වදාරා
ලොකානුකම්පාකාරීවූ සර්වඥයන් වහන්සේ ජේතවනයටම
වැඩිසේක.———නාගද්වීපාගමනය නිමි.

71 එයින් තුන්වෙනි වර්ෂයෙහි ඒ මණිඅක්ඛිකනම් නාගරජ
තෙම එලබ සඞ්ඝයා සහිත තථාගතයන් වහන්සේට නිම
72 න්ත්‍රණය කෙළේය. සර්වඥතෙම සම්‍යක්සම්බෝධියෙන්
අටවෙනි වර්ෂයෙහි ජේතවනයෙහි වාසයකරණසේක් ලො
73 කස්වාමිවූ පස්මරුන් දිනූ මුනිශ්වර තෙමේ භික්ෂූන් පන්සි
යයක් විසින් පිරිවරණලද්දේ දෙවෙනිදවස භක්තකාලය
74 ආරෙචනාකළකල්හි රම්‍යවූ වෙසක්මස පෞර්ණමාසී තිථි
යෙහි එහිදීම සඟලසිවුරු පොරවා පාත්‍රය (ශ්‍රීහස්තයෙන්)
75 ගෙණ ඒ කැළණිදෙසවූ මිණිඅක් (නාරජහු) නිවෙසට වැ
ඩිසේක, කැළණිසෑය පිහිටිතන්හි කරණලද රත්නමණ්ඩ
පයෙහි සඞ්ඝයාද මාහැඟිවූ පළඟෙහි තමන්වහන්සේද
76 වැඩඋන්සේක. සමූහය සමගවූ නාරජතෙම සොම්නස්
වූයේ දිව්‍යවූ ඛාද්‍යභොජ්‍යයෙන් සඞ්ඝයා සහිතවූ සර්වඥ
77 යන් සන්තර්පණය කෙළේය. ලොකානුකම්පා ඇත්තාවූ

ලොකනායකවූ සර්වඥතෙම එතන්හි ධර්මදෙශනාකොට අ
හසට නැගී (වැඩ) සමන්කුළු මතුයෙහි පාසටහන දක්වූ
78 සේක. සඞ්ඝයා සහිතවූසේක් ඒ පර්වතපාදයෙහි සැපසේ
79 දිවාවිහරණය කොට දීඝාවැවට වැඩිසේක. ලොකස්වාමී
තෙම සඞ්ඝයා සමගවූසේක් එහි චෛත්‍යස්ථානයෙහි වැඩ
හිඳ ස්ථානය ගෞරවයට පැමිනීමපිණිස සමාධියට සම
80 වන්සේක. ස්ථානාස්ථාන දැන්මෙහි ප්‍රවීණවූ මහාමුනිතෙ
මේ එතැනින් නැගිට මහමෙවුනාඋයන පිහිටි තැනට වැඩි
81 සේකි. ශ්‍රාවකසඞ්ඝයා සහිතවූ ලොකස්වාමීතෙම මහබෝ
පිහිටි තන්හි වැඩහිඳ සමාධියට සමවන්සේක. මහාථූපය
82 පිහිටිතන්හිද එසේම (සමාධිය) අපීර්ණය කළසේක. එසේම
ථූපාරාමයෙහි දාගැබ පිහිටි තන්හිද (සමාධියට සමවන්
83 සේක.) ඉන්බින්තෙන් සමාධියෙන් නැගිට ශෛලචෛ
ත්‍යය පිහිටිතැනට වැඩ ගණාධිපතිවූ අවබොධකළ සර්වාඥ
ඇති සර්වඥතෙම සමග ආවාවූ දෙව සමූහයන්ට අනුශාස
නාකොට එතැනින් දෙව්රම්වෙහෙරට වැඩිසේක.

84 මෙසේ ඉතා මහත් දයා ඇත්තාවූ ලොකයට ප්‍රදීපයක්
බඳුවූ ප්‍රමාණරහිත ප්‍රඥාඇති ලොකස්වාමීතෙම ලඞ්කාවාසී
ජනයාගේ අනාගතාර්ථය බලමින් එකල්හි ලඞ්කාවෙහිවූ
දෙව නාග සමූහාදීන්ගේ වැඩද දක්වමින් මේ යහපත්
දිවයිනට තුන්වරක් වැඩිසේක, ඒ කරණකොටගෙණ මේ
දීපය ධර්මතැමති පහනින් බැබළුම් ඇත්තාවූ සජ්ජනයන්
විසින් බුහුමන්කරණලද්දේය—කල්‍යාණාගමන නිමි.

මෙතෙකින් හුදිජනයා පහන්සංවෙගපිණිස කළ මහවංශතථා
ගතාභිගමනනම්වූ පළමුවෙනි අදියර නිමි.

---

# දෙවෙනි පරිච්ඡෙදය.

1 මහාමුනි නම්වූ සර්වඥතෙම මහාසම්මත රජහුගේ වංශ
යෙහි උපන, කල්පාරම්භයෙහි මහාසම්මතනම් නරෙන්ද්‍ර
2 යෙක් වූයේය. රොජය, වරරොජය, එසේම කල්‍යාණනම්
ඇත්තාවූ (කල්‍යාණය වරකල්‍යාණය යන) දෙදෙනෙක, උ
3 පොසථය, මන්ධාතුය, චරය, උපචරය යන දෙදෙනෙක,
චෙතියය, මුචලය, මහාමුචල නමැත්තේය, මුචලින්දය, සග
4 රය, සාගරදෙව නමැත්තේය, භරතය, භගීරථය, රුචිය,

සුරුචිය, ප්‍රතාපය, මහාප්‍රතාපය, එසේම පණාදනම්වූ (පණා
දය, මහාපණාදයයන) දෙදෙනෙක, එසේම සුදර්ශනනෙරු
5 නමැත්තාවූ (සුදර්ශනය, මහාසුදර්ශනය, නෙරුය, මහානෙ
රුය යන) පශ්චිමවූ දෙදෙන දෙදෙනායයි මහාසම්මත
6 රජහුගේ දරුමුනුබුරු රජදරුවෝ වූහ. අසඞ්ඛ්‍යායුෂ්කවූ
මේ අටවිසි මහිපල්හු කුසාවතිය, රජගහය, මිථුළුය, යන පුර
7 යන්හි විසූහ. ඉක්බිත්තෙන් ඒ රජුන්ගේ පරම්පරානුගතවූ
රජදරුවන් සියයක්ද, සපණසක්ද, සැටදෙනෙක්ද, අසූ
8 සාරදහසක්ද, ඉන් මැතවූ සතිස්දෙනෙක්ද, දෙතිස්දෙ
නෙක්ද, අටවිසිදෙනෙක්ද, ඉන් මැතවූ දෙවිසිදෙනෙක්ද,
9 අටළොසෙක, සතළොසෙක, පසළොසෙක, තුදුසෙක, නව
දෙනෙක, සත්දෙනෙක, දොළසෙක, ඉන් අන්‍යවූ පස්විස්
සෙක, යළිත් පස්විස්සෙක, දොළසෙක, නැවතත් දොළ
10 සෙක, නවදෙනෙක, මඛාදෙවාදී අසූසාරදහසෙක, කළා
රජනකාදී අසූසාරදහසෙක, ඔක්කාක රජහු දක්වා සොළ
11 සෙක, මේ මුනුබුරු රජහු රාශිවශයෙන් වෙන් වෙන් පුර
12 යෙහි කැමැතිපරිද්දෙන් රාජ්‍යානුසාසනා කළහ. ඔක්කාක
රජහුගේ දෙටුපුත්වූ උක්කාමුඛනම් රජෙක් විය. නිපුරය,
13 චන්දිමන්තය, චන්ද්‍රමුඛය, සිරිසජයය, වෙස්සන්තර මහර
ජය, චාමීය, සිංහවාහනය, සිංහස්සරය, යනමොහු ඔහුගේ
14 දරුමුනුබුරෝය. සිංහස්සර රජහු දරුමුනුබුරු රජුන් දෙ
15 යාසූ දහසෙක, ඔවුන්ගේ අන්තිම රජ ජයසේනනම් විය—
16 මොව්හු කිඹුල්වත් පුරයෙහි ශාක්‍ය රජහුයයි ප්‍රසිද්ධවූහ, සිංහ
හනු නම් මහරජ තෙම ජයසේන රජහුගේ පුත්‍රවූයේය, ජය
සේනරජහුගේ දියනි තොමෝත් යසොධරානම්විය. දෙව
17 දහ නම් නුවර දෙවදහශාක්‍යනම්වූ මහිපතියෙක් විය, උහු
ගේ අඤ්ජනනම් කුමාරයෙක යළිත්කච්චානානම්වූ කුමරියෙ
කැයි දරු දෙදෙනෙක් වූහ. ඒකච්චානා කුමාරිකා තොමෝ
18 සිංහහනුනම් රජහුගේ මෙහෙසී විය, ඒ යසොධරානම් කුමා
රිකා තොමෝ අඤ්ජනනම් ශාක්‍යරජහුගේ මෙහෙසී විය, අඤ්
ජනනම් ශාක්‍යරජහුගේ මායාය ප්‍රජාපතීයයි දූන් දෙදෙනෙක්
19 වූහ. දණ්ඩපාණී ශාක්‍යය, සුප්‍රබුද්ධ ශාක්‍යයයි පුත්‍රයන් දෙ
20 දෙනෙක්ද වූහ, සිංහහනුනම් ශාක්‍යරජහට වනාහි පුත්‍රයෝ
පස්දෙනෙක්ද දූන් දෙදෙනෙක්ද වූහ. සුද්ධෝදනය, ධෝ
තෝදනය, සුක්කෝදනය, අමිතෝදනය * යි මේ පස පුත්‍ර
21 යෝය. අමිතාය, ප්‍රමිතායයි මේ දියනි දෙදෙනාය. අමිතා

* එක් පුත්‍රයෙකුගේ නම ගාථායෙහි නොකියනලදී.

තොමෝ සුප්‍රබුද්ධනම් ශාක්‍ය රජහට මෙහෙසී විය, ඒ
22 මෙහෙසියට භද්‍රකච්චානාය, දෙවදත්තයයි දරු දෙදෙ
නෙක් වූහ, මායාය, ප්‍රජාපතීයයි සුද්ධොදනරජහුගේ මෙහෙ
23 සිදෙදෙනෙක් වූහ, සුද්ධොදන මහරජහට ද ඒ මායාබිසව
ගේපුත්‍රතෙම ඒ සර්වඥවූයේය. මහාමුනිවූ සර්වඥතෙම
සියලු ක්ෂත්‍රියයන්ගේ මුදුන්වූ ආවාහ විවාහාදියෙන් අසම්භි
න්නව මෙසේ පැවැති මහාසම්මත වංශයෙහි අන්තිම
ජාතියෙහි උපන්සේක.

24 බොධිසත්ත්වවූ සිද්ධාර්ථනම් කුමාරයා හට භද්‍රකච්චානා
නම් කුමාරිකාතොමෝ මෙහෙසී විය. ඒ මෙහෙසියගේ
25 පුත්‍රතෙම රාහුලනම් වූයේය, බිම්බිසාර කුමරතෙමේද
සිද්ධාර්ථකුමාරතෙමේද යහලු වූහ. ඒ දෙදෙනාගේ පියරජ
හු දෙදෙනද යහලුම වූහ. බොධිසත්ත්වතෙම බිම්බිසාර රජ
26 හට පස්හවුරුද්දක් වැඩිවයස් ඇත්තේ විය. වයසින් එකුන්
තිස් හවුරුදුවූ බොධිසත්ත්වතෙම (බුද්ධත්වය පිණිස) අභිනි
27 ෂ්ක්‍රමණය කෙළේය· සහවුරුද්දක් දුෂ්කරක්‍රියා කොට ක්‍රම
යෙන් සම්‍යක්සම්බොධියට පැමින, ඉක්බිත්තෙන් වයසින්
පන්තිස් හවුරුදු ඇතිවූසේක් බිම්බිසාර රජානන්කරා පැමිනි
28 සේක. ඉක්බිත්තෙන් මහප්‍රාඥ බිම්බිසාර රජතෙම පස
ළොස් හවුරුදු වයස් ඇත්තේ සියපියහු විසින් අභිෂෙක
29 කරණ ලද්දේ රාජ්‍යයට පත්විය. සොළොස්වෙනි වස
පැමිනිකල්හි ශාස්තෘවූ සර්වඥතෙම ඕහට ධර්මදෙශනා
30 කළසේක. හෙතෙමවනාහි දෙපණස් හවුරුද්දක්ම රජ
කරවිය. ඕහට සර්වඥයන්වහන්සේ පැමිනෙන්නට පළමු
රාජ්‍යයෙහි හවුරුදු පසළොසක් වූහ. තථාගතයන්වහන්
31 සේ ජීවමානකාලයෙහි සත්තිස්හවුරුද්දක් වූහ. බිම්බි
සාර රජහු පුත්‍ර දුර්මතිවූ මහාමිත්‍රද්‍රොහී අජාතශත්‍රු කුමා
රතෙම ඒ බිම්බිසාර රජහු මරවා දෙතිස් හවුරුද්දක් රාජ්‍යය
32 කරවූයේය. අජාසත් රජහට අටවෙනි වර්ෂයෙහි තථාගත
යන්වහන්සේ පිරිනිවිසේක. පරිනිර්වාණයෙන් පසු හෙ
තෙම සූවිසි හවුරුද්දක් රජකරවිය.

33 සියල් ගුණයෙන් අගබැව් පැමිනි කෙලෙශයන්ට වසඟ
නුවූ තථාගතතෙම මරණවසප්‍රාප්තවූසේක, මෙසේ මේ
ලෝකයෙහි යමෙක්තෙම භය උපදවන්නාවූ අනිත්‍යතාව
(නුවනින්) දක්නේද හෙතෙම දුඃඛයාගේ පරතෙර පැමිනි
යේසි.

මෙතෙකින් සුදිජනයා ප්‍රසාද සංවෙග පිණිස කළ මහවස
මහාසම්මත වංසනම්වූ දෙවෙනි අදියර නිමි.

# තුන්වෙනි පරිච්ඡේදය.

1 පසැස් ඇත්තාවූ අතුල්‍යවූ සර්වඥයන් වහන්සේ පන්සාළිස්
වසක් ජීවත්වෙමින්, ලෝකයට (හිතවූ) සියලු කෘත්‍යයන්
2 සර්වප්‍රකාරයෙන් කළසේක්. කුසිනාරා නුවර යමකසාලය
න්ගේ අතරවූ උත්තමස්ථානයෙහිදී වෙසක්මසපුරපසළො
ස්වක් දවස්හි, ලෝකයාගේ ඒ ප්‍රදීපයතෙම නිමී ගියේය.
3 (පිරිනිවන්පෑසේකි) ගණනපථාතික්‍රාන්තවූ භික්ෂූහු එහි
රැස්වූහ, එසේම ක්ෂත්‍රියයෝද, බ්‍රාහ්මණයෝද, වෛශ්‍යයෝ
4 ද, ශූද්‍රයෝද දෙවියෝද, රැස්වූහ. ඒ භික්ෂූන් අතුරෙන් සත්
ලක්ෂයක් ප්‍රධාන භික්ෂූහු වූහ, එකල්හි මහාකාශ්‍යපස්ථවිර
5 යන්වහන්සේම සඞ්ඝස්ථවිරසේක, ශාස්තෘන්වහන්සේගේ
ශරීරසම්බන්ධිවූ ශාරීරිකධාතු කෘත්‍යයන් කරවා ඒ මහා
6 ස්ථවිරතෙමේ ධර්මනැමති ශාස්තෘන්ගේ චිරස්ථිතිය ප්‍රාර්ථ
නාකරණසේක්, ලෝකස්වාමිවූ සර්වඥයන් පිරිනිවි සත්වන
දවස්හි, සුභද්‍රනම් මහලු පැවිද්දහු විසින් කියනලද දුර්භා
7 ෂිත වචනය මෙනෙහි කරමින්, (පාංශුකූල) චීවරදානයද,
තමන්වහන්සේ හා සමබැව්හි තැබීමද සද්ධර්මය පිහිටුවන
පිණිස සර්වඥයන්වහනසේ විසින් කරණලද අනුග්‍රහයද
8 සිහිකරණසේක්, ධර්මසඞ්ගායනාකරණුපිණිස, බුදුන්විසින්
අනුදන්නාලද්දාවූ නවාඞ්ගශාස්තෘශාසනධාරීවූ සර්වාංග
9 යෙන් උපලක්ෂිතවූ මහරගත්වූ සංයතභික්ෂූන්ම ආනන්දස්ථ
විරයන්වහන්සේගේ කාරණයෙන් එක්නමක් අඩුවූ පන්සි
10 යක් සම්මතකළසේක. නැවත ඒ ආනන්දස්ථවිරයන් හැර
සඞ්ගායනාව කරණු නොහැකියයි භික්ෂූන්විසින් විශෙෂ
යෙන් යාච්ඤාකරණලද්දේ ආනන්දස්ථවිරයන්ද සම්මතකළ
11 සේක. සාධුක්‍රීඩා සත්දවසය, ධාතුපූජා සත්දවසය යන
12 අර්ධමාසය ගෙවා සියලු ලොවට අනුකම්පාකාරීවූ ඒ ස්ථවිර
යෝ "රජගහනුවර වස්වෙසෙමින් ධර්මසඞ්ගායනාව ක
13 රම්හ අන්‍යයන් විසින් එහි නොවිසිය යුතුය" යි නිශ්චය
කොට, ඒ ඒ තැන ශෝකයෙන් ආතුරවූ මහජනයා අස්වස
14 මින් ජම්බුද්වීපයෙහි චාරිකාකෙරෙමින් හැසිර කුශලපක්ෂය
පිහිටීම පතන්නාහු ඇසළමස ශුක්ලපක්ෂයෙහි සමෘද්ධවූ
15 සිවුපසඇති රජගහනුවරට එළඹියාහුය. එහිම වස්එළඹි
යාවූ ස්ථිරගුණයෙන් යුක්තවූ සර්වඥමතයෙහි දක්ෂවූ ඒ
මහාකාශ්‍යපාදී ස්ථවිරයෝතුමූ අජාසත්රජහට කියා වර්ෂා
16 මාසයන් අතුරෙන් පළමුවෙනි මාසයෙහි රජගහනුවර සිය
ලුම සෙනසුන්හි පිළිසකර කරවූහ, වෙහෙර පිළිසකරකම්

17 නිමිකල්හි "දැන් අපි ධම්මසඞ්ගායනා කරම්හ"යි රජහට වදා
ළහ, (මාවිසින්) "කටයුතු කුමකැයි" පිළිවිසි රජහට හිඳිනා
තැනක් (කටයුතු) යයි දැන්වූහු. ඒ රජතෙමේ "කොතැන්හි
18 දැ"යි විචාර උන්වහන්සේලාවිසින් වදාළ ස්ථානයවූ වෙභා
රපර්වතපාර්ශ්වයෙහි සප්තපර්ණිගුහාද්වාරයෙහි, රම්‍යවූ
19 දෙවසභාව හා සමානවූ මණ්ඩපයක් වහා කරවූයේය. ඒ
රජතෙම එය සර්වප්‍රකාරයෙන් සරසවා එහි භික්ෂූන්ගණ
20 න්ම අනර්ඝවූ ඇතිරිලි ඇතිරවූයේය; එහි දක්ෂිණභාගය
නිසා උත්තරදිශාභිමුඛකොට මාහැඟිවූ උතුම් ථෙරාසන
21 යක් මොනවට පණවනලද්දේවිය. ඒ මණ්ඩපමධ්‍යයෙහි
පෙරදිගට අභිමුඛකොට සර්වඥයන්වහන්සේට සුදුසුවූ
22 උතුම්ධර්මාසනයක් මොනවට පණවනලද්දේවූයේය. රජ
තෙම "අපේ කටයුතු නිමියේය"යි ස්ථවිරයන්වහන්සේලාට
දැන්වූයේය.

23 ඒ ස්ථවිරයෝතුමූ ආනන්දජනකවූ ආනන්දස්ථවිරයන්වහන්
24 සේට "එම්බා ආනන්දය සෙටදවස රැස්වීමය එහි ශෛ
ක්ෂ්‍යවූ තොපවිසින් ගමන නොහොබනේය, එහෙයින්.
යුෂමත්තෙමේ ස්වාර්ථයෙහි ප්‍රමාදරහිතවේව"යි වදාළෝ.
25 මෙසේ මෙහෙයනලද්දාවූ ආනන්දස්ථවිරතෙම වීර්‍ය්‍ය සම
කොට (චතුර්විධ) ඊර්‍ය්‍යාපථයෙන් වෙන්ව රහත්බැව් පත්
26 වූසේක. ඒ ස්ථවිරයෝතුමූ වර්ෂාමාසයන් අතුරෙන් දෙවෙනි
මස දෙවෙනිදවස්හි සිත්කළුවූ ඒ මණ්ඩපයෙහි රැස්වූහු.
27 රහතන්වහන්සේලා ආනන්දස්ථවිරයන්වහන්සේට සුදුසුවූ
අස්නක් තබා සුදුසු පරිද්දෙන් අසුන්හි වැඩඋන්හ. ඒ
28 ආනන්දස්ථවිරතෙමේ අර්හත්ඵලප්‍රාප්තිය හඟවනු කැමැත්තේ
උන්වහන්සේලා සමග නොම වැඩිසේක. "ආනන්දස්ථවිර
තෙමේ කොතැන්හිදැ"යි කිසිකෙනෙකුන් විසින් කියනු
29 ලබනකල්හි, උන්වහන්සේ පොළව නිමිද හෝ, අහසින්
අවුත් හෝ තමහට තබනලද අස්නෙහි වැඩඋන්සේක.
30 සියලු ස්ථවිරයෝතුමූ විනයෙහි උපාලිස්ථවිරයන්වහන්සේද,
අවශේෂවූ සියලුම ධම්මයෙහි ආනන්දස්ථවිරයන්වහන්සේද,
31 ප්‍රධාන කළහ. (කාශ්‍යපනම්වූ) මහාස්ථවිරතෙම තමන්
වහන්සේම විනය විචාරනු පිණිස තමන් සම්මත කළ
සේක, උපාලිස්ථවිරතෙමේද විසඳනු පිණිස තමන්ම සම්මත
32 කළසේක. ඒ මහාකාශ්‍යපස්ථවිරතෙම ථෙරාසනයෙහි වැඩ
හිඳ ඒ උපාලිස්ථවිරයන් විනය විචාළසේක, ඒ උපාලිස්ථ
විරතෙම ධර්මාසනයෙහි වැඩහිඳ එයම විසඳූසේක.

33 ක්‍රම දක්ෂවූ ඒ සියල්ලෝම විනයඥයන් අතුරෙන් අග්‍රවූ

උපාලිස්ථවිරයන්වහන්සේ විසින් විසඳු ක්‍රමයෙන් විනය
34 සඞ්ඝායනා කළහ.—ඒ මහාකාශ්‍යපස්ථවිර තෙම තමන්
වහන්සේ සම්මතකොට ගෙණ, බහුශ්‍රැතාදීන් අතුරෙන්
35 අග්‍රවූ සර්වඥයන්වහන්සේගේ ධර්මභාණ්ඩාගාරරක්ෂාකාරී
(ආනන්දස්ථවිරයන්) ධර්මය විචාළසේක, ආනන්දස්ථවිරතෙම
එපරිද්දෙන් තමන්වහන්සේම තමන් සම්මතකළසේක්
ධර්මාසනගතව ඒ ධර්මය නිරවශෙෂ කොට විසඳුයේය.
36 ධර්මාර්ථයෙහි දක්ෂවූ ඒ සියලු ස්ථවිරයෝ තුමූ වෙදෙහ
මුනිවූ ඒ ආනන්දස්ථවිරයන්වහන්සේ විසින් විසඳු ක්‍රමයෙන්
37 ධර්මය සඞ්ගායනා කළහ. මෙසේ සියලු ලෝකයාට
හිතවූ රහතන්වහන්සේලා විසින් සියලු ලොකයාගේ වැඩ
පිණිස සත්මසකින් ඒ ධර්මසඞ්ගීතිතොමෝ නිමවනලද්
38 දිය. මහාකාශ්‍යපස්ථවිරයන් වහන්සේ විසින් මේ බුද්ධ
ශාසනය පන්දහසක් හවුරුදු පැවැත්මෙහි පොහොසත්
39 කරණ ලද්දේයයි ධර්මසඞ්ගායනාවසානයෙහි පෘථුවිසඞ්ඛ
රක ජලය අවසන්වූ මහා පෘථුවිතොමෝ ඉතාම හටගත්
40 ප්‍රමෝදය ඇත්තියක්සේ සවරක් කම්පිතවිය. ලෝකයෙහි
නොයෙක්පරිද්දෙන් නොසෙක් ආශ්චර්යයෝද වූහ, මේ
පරම්පරතොමෝ ස්ථවිරයන් විසින් කරණලදහෙයින්
41 ථෙරීයනම්වේ, ඒ සියලුම ස්ථවිරයෝ තුමූ ප්‍රථම සඞ්ගීතිය
හා බොහෝ සියලු ලෙව්වැඩද කොට ආයු ඇතිතෙක් වැඩ
සිට පිරිනිව්යෝය.

42 ප්‍රඥනැමැති ප්‍රදීපයෙන් මොහාන්ධකාර විධ්වංශනය කළාවූ
ලොකාන්ධකාර නැසීමෙහි මහපහන් බඳුවූ ඒ ස්ථවිරයෝ
තුමූද, මරණනැමති භයානක මහපවනින් නිවනලද්දූ
හුය, එහෙයින්ද නුවනැත්තේ ජීවිතමදය හරණේයි.

මෙතෙකින් සුදිජනයා පහන්සංවෙගපිණිස කළ මහවස
පර්මසඞ්ගීති නම්වූ තුන්වෙනි අදියර නිමියේයි.

---

# සතරවෙනි පරිච්ඡේදය.

1 අජාසත් රජහු පුත්‍ර මිත්‍රද්‍රොහිවූ උදයිභද්‍ර රජතෙම ඒ
අජාසත් රජහු මරවා සොළොස්හවුරුද්දක් රජය කරවූයේ
2 ය, උදයිභද්‍ර රජහු පුත්‍රවූ අනුරුද්ධකුමාරතෙම ඒ උදයිභද්‍ර

රජහු මරවාද, අනුරුද්ධරජහු පුත්‍රවූ මුණ්ඩකුමාරතෙම ඒ
3 අනුරුද්ධ රජහු නසාදැයි මිත්‍රද්‍රෝහි දුර්මතිවූ ඔව්හුද රාජ්‍යය
4 කරවූහු. ඒ දෙදෙනාගේ රාජ්‍යයන්හිද අටහවුරුද්දක් ඉක්
මුනාහ, මුණ්ඩරජහු පුත්‍රවූ පවිටුනාගදාසකතෙම පියා මර
5 වා සූවිසිවසක් රජය කරවී. ඉක්බිත්තෙන් "මේ පිතෘඝාත
කවංශය"යි කිපී නුවරවැස්සෝ සමගිවූවෝ නාගදාසක රජහු
6 පහකොට සාධූන්විසින් සම්මතකරණලද්දාවූ සුසුනාගයයි
ප්‍රසිද්ධවූ අමාත්‍යයෙකු සියල්ලන්ට හිතසිත් ඇත්තෝ රාජ්‍ය
7 යෙහි මොනවට අභිෂෙක කළහ. ඒ රජතෙම අටළොස්
වසක් රජය කරවිය, උහුපුත් කාලාසොක රජතෙමේ අටවිසි
8 හවුරුද්දක් රජය කරවිය, කාලාසොකරජහු රාජ්‍යයෙහි දස
වෙනිවස ඉක්මුන කල්හි මෙසේ ගණන් පිළිවෙළින් සර්ව
9 ඥයන්වහන්සේගේ පිරිනිවි වසින් වර්ෂ සියයක් විය. එකල්හි
විසාලාමහනුවර වැසි අලජ්ජිවූ නොයෙක් වජ්ජීපුත්‍රක භික්ෂූ
හු, සිඞ්ගිලොණකප්පය, වඞ්ගුලකප්පය, එසේම ගාමන්තරක
10 ප්පය, ආවාසකප්පය, අනුමතිකප්පය, ආචිණ්ණකප්පය, අම
ථිතකප්පය, ජලොගිකප්පය, අදසකනිසීදනකප්පය, ජාතරූ
පාදිකප්පයයි * මෙසේ (අකැපවූ) දශවස්තූන් කැපයයි ප්‍රකා
11 ශ කළහ. වැඳූරට චාරිකාවෙහි වඩනා යශස්ථවිර තෙම ඒ

---

* මෙහි ශෘඞ්ගලවණකල්ප නම් ලුණුනැති ආහාරලත්කල ඒ
හා මිශ්‍රකොට වලඳනු පිණිස ගෙරිඅං ආදී කුලාවක බහා ලුණු
පරිහරණයි—ව්‍යඞ්ගුලකල්ප නම් ඉරනැමි දැඟුල් සෙවනැලි වන
තෙක් විකල්බොජුන් වැලඳීමයි-ග්‍රාමාන්තරකල්ප නම් දැන් අන්
ගමකට යමැයි පවුරුණුකළහුවිසින් කැපනොකළ අනතිරික්ත
භොජනය වැලඳීමයි—ආවාසකල්ප නම් මහාසීමායෙහි නානා ආ
වාසයන්හි වෙන් වෙන්ව පොහෝකිරීමයි—ආචීර්ණකල්ප නම්
ආචාර්ය්‍ය උපාධ්‍යායන් විසින් පුරුදුකළදේ පැවැත්වීමයි—අමථිත
කල්ප නම් යමක් කිරිබැවින් තොරනම් දිබවට නොපැමිනියේ
නම් එවැන්න පැවරුවහු විසින් කැපකොට නොගෙණ වැලඳී
මයි—ජලොගි කල්පනම් යමක් සුරාත් නොවීද මද්‍යබවටත් නො
ගියේද එබඳු නොලා නුමුහුකළ සුරාපිමයි—අදශකනිෂීදන ක
ල්පනම් දහවලුනැති නිසීදන පරිහරණයි—ජාතරූපාදී කල්පනම්
රන් රිදී මසු කහවණු ආදිය පිළිගැන්මයි, යන මෙතෙක්දෑ භික්ෂූ
න්ට කැපයයි වජ්ජිපුත්‍රක භික්ෂූන් විසින් උපදවනලද දශවස්තු
නම්—මෙහි පවාරණ පටිග්ගහණදියෙහි වැඩි විස්තර විනයන
සින් දන්නේයි.

ඇසූයේ, ෂඩභිඥ ඇත්තාවූ බලප්‍රාප්තවූ කාකණ්ඩක පුත්‍රවූ
12 යශස්ථවිර තෙම එය සංසිඳුවනු පිණිස උත්සාහ සහිතවූයේ
එහි මහාවනයට වැඩිසේක.
13 ඒ වැදූරට වාසී භික්ෂූහු පොහෝගෙයි දිය සහිත ලො
හො තළියක් තබා "සඟහට කහවණු ආදිය දෙව්" කියා උපා
සකයන්ට කීහු, ඒ ස්ථවිරතෙම "නොකැපය එය නොදෙ
14 ව" යි වැලකූයේය, ඒ භික්ෂූහු යශස්ථවිරයන්වහන්සේට පටි
සාරණීයනම් කර්මය කළහ, ඒ ස්ථවිරතෙම අනුදූතයෙකු
15 ඉල්වාගෙණ උහු හා සමග නුවරට පිවිසියේය. තමන්
ධර්මවාදීබව නුවර වැස්සන්ට හඟවා පෙරළා වැඩිසේක.
16 අනුදූත භික්ෂූහුගේ බස් අසා ඒ ස්ථවිරයන්වහන්සේට
උක්ඛේපනීයනම් කර්මයකරන්නට ආවාවූ භික්ෂූහු ස්ථවිර
යන් වහන්සේගේ ගෙය වටකොට සිටියෝය. ස්ථවිරතෙම
17 අහසට නැගී එතැනින් කොසඹෑනුවරට වැඩ, අධොගඞ්ග
පර්වතවිහාරයට තෙමේ වැඩ පාවාරට වාසීවූද අවන්ති රට
18 වාසීවූද භික්ෂූන් සමීපයට වහා දූතයන් යැවූසේක. සාණ
වාසීවූ සම්භූතනම් ස්ථවිරයන්වහන්සේට ඒ සියල්ල කී
19 සේක. පාවාරට වාසීවූ සැට නමක්ද, අවන්ති රටවාසීවූ අසූ
නමක්ද යන සියලු මහරහත් ස්ථවිරයන්වහන්සේලා
20 අධොගඞ්ග පර්වතවිහාරයෙහි බැසිසේක්ලාය, එහි ඒ ඒ
තැනින් රැස්වූ භික්ෂූහු සියල්ලොම අනූදහසක් වූහ. රා
ගාදී කෙලශරහිත ඒ ස්ථවිරයන් වහන්සේලා මන්ත්‍රණය
21 කොට, ක්ෂීණාශ්‍රවබහුශ්‍රැතවූ සොරෙය්‍යරට වැසි රේවත
ස්ථවිරයන්වහන්සේ ඒ කාලයෙහි ප්‍රමුඛවසයෙන් දැන උන්
වහන්සේ දක්නාපිණිස ඒ තෙරුන්වහන්සේලා නික්මු
22 නහ. ඒ ස්ථවිරයන්වහන්සේ ඒ මන්ත්‍රණය (දිව්‍යකණින්)
අසා විසාලාමහනුවරටම වඩිනු කැමැත්තේ (පිරිවර රහි
තව) ඵාසුගමන කැමැත්තේ, එතැනින් එකෙණෙහි
23 නික්මුනසේක. ඒ මහාධ්‍යාසයඇත්තාවූ ස්ථවිරයන්වහන්
සේ විසින් උදය උදය නික්මුනතැනට, සවස සවස
පැමිණෙන්නාහු ඒ රේවත ස්ථවිරයන්වහන්සේ සහජාති
භූමියෙහිදී දුටහ. එතැනදී සම්භූතස්ථවිරයන්වහන්සේ
24 විසින් නියෝගකරණලද්දාවූ යශස්ථවිරයන් වහන්සේ,
සද්ධර්මශ්‍රවණාවසානයෙහි, රේවත ස්ථවිරොත්තමයන් කරා
එළැඹ දශවස්තූන් විචාළේය, ඒ ස්ථවිරතෙම (වරදයයි)
25 ප්‍රතික්ෂෙපකොට වදාළේය. ඒ අධිකරණයද අසාවදාරා
වලක්වම්හයි වදාළේය. ඒ පාප භික්ෂූහුද උත්තමවූ රේවත
26 ස්ථවිරයන්වහන්සේ පක්ෂකරගන්නට සොයන්නාහු බො

හෝවූ ශ්‍රමණසාරූප්‍ය පරිෂ්කාරයන් සපයාගෙණ වහා
27 නැවින් ගොස් සහජාතිභූමිසමීපයට ගියාහු, භක්තකාලය
28 පැමිනිකල්හි භක්තපරිභොගය කෙරෙත්, සහජාතිභූමි
යෙහි වසන්නාවූ රහත්වූ (ආනන්දස්ථවිරයන් වහන්සේගේ
සද්ධිවිහාරිකවූ) සාළ්හනම් ස්ථවිරතෙම සිතා වදූරා පාවෙ
ය්‍යක භික්ෂූහු ධර්මවාදීහුයයි දැනවදාළේය. මහාබ්‍රහ්මතෙම
29 උන්වහන්සේකරා එළඹ ධර්මයෙහි පිහිටුවයි කීයේය. ඒ
ස්ථවිරතෙම තමන් සතතයෙන් ධර්මයෙහි පිහිටිබව ඒ බ්‍රහ්ම
යාට වදාළේය. ඒ භික්ෂූහු පිරිකර රැගෙණ රෙවතස්ථවිර
30. යන් දුටහ. ඒ ස්ථවිරයන්වහන්සේ (පිරිකර) නොපිළිගත්
තේය, ඒ පක්ෂය ග්‍රහණයකළාවූ (උත්තරනම්) ශිෂ්‍යයා
නෙරපූයේය. ඉක්බිත්තෙන් ඔව්හු විසාලාමහනුවරට
31 ගොස් එතැනින් පැළලුප්නුවරට ගියාහුය. අලජ්ජීභික්ෂූහු
"අපගේ ශාස්තෲන්වහන්සේගේ ගඳකිළිය රකිමින් අපි
32 එහි වැඳූරට මහාවනවිහාරයෙහි වසම්හ ගම්වැසිවූ භි
33 ක්ෂූහු වෙහෙරගණ්නම්හයි එනි මහරජ ඔවුන් වළක්වයි"
කාලාශෝකරජහට කිවූය. ඔව්හු රජහු දුර්ග්‍රාහිතකොට
34 විසාලාමහනුවරට ආවාහුය. මෙහි සහජාති භූමියෙහි රෙ
35 වතස්ථවිරයන්වහන්සේ සමීපයෙහි භික්ෂූහු එකොළොස්
ලක්ෂ අනූදහසක් රැස්වූවෝ ඒ දසවස්තු සංසිඳුවනපිණිස
36 සලකළෝ. මූලස්ථවූ වැඳූරට වාසී භික්ෂූන්ගෙන් වෙන්ව
දශවස්තුසමනය (රෙවත ස්ථවිරයන්වහන්සේට) රුචිනො
37 විය. ඉක්බිත්තෙන් ඒ සියලුම ස්ථවිරභික්ෂූහු විසාලාමහනු
වරට ගියාහුය. වරදවා පිළිගත්තාවූ රජ තෙමේද එහි
ඇමතියන් යැවූයේය. දෙවානුභාවයෙන් මූළාවූවෝ අන්
38 තැනෙක ගියාහුය. ඒ මිහිපල් තෙම ඔවුන් යවා ඒ රාත්‍රි
යෙහි ස්වප්නයෙන් ස්වකීයවූ දෙහය ලොහොකුම්භනරක
39 යෙහි බැහුවා දුටුයේය, රජතෙම අතිසයින් බියපත්වූයේය
උහු අස්වසනු පිණිස උහුගේ නැගනිවූ නන්දානම් රහත් ස්ථ
විරීතොමෝ අහසින් ආවාය, "නොපව්සින් බරවූ කර්මයක්
40 කරණලද්දේය, ධාර්මිකවූ ආර්ය්‍යයන් ක්ෂම කරව, තෙපි
41 උන්වහන්සේලාට පක්ෂව ශාසනසංග්‍රහකරව, මෙසේ කළ
42 කල්හි තොපට සැපවෙනෙයි"කියා බැහැරගියාය. මිහිපති
තෙමේ උදෑසනම විසාලාමහනුවරට යන්නට නික්මුනේය,
43 ඒ රජතෙම මහවනයට ගොස් භික්ෂුසංඝයා රැස්කරවා උභ
යපක්ෂයාගේ වාදයද අසා ධර්මපක්ෂයට රුචිකොට, ඒ සියලු
44 ධාර්මිකභික්ෂූන් ක්ෂමාකරවා තමන්ගේ ධර්මපක්ෂභාවය
කියා නුඹවහන්සේලා රුචිවූපරිද්දෙන් ශාසනයාගේ ප්‍රග්‍රහ

45 ණය කරව්සයි කියා උන්වහන්සේලාට ආරක්‍ෂාත් දී ස්ඃතිය
46 නගරයට ගියේය. එකල්හි ඒ දසවස්තූන් විනිශ්චයකරණු
පිණිස සඞ්ඝයා රැස්වූසේක, එහි කෙළවර නැත්තාවූ විවාද
47 කථාවෝ සඟමැද උපන්හ. ඉක්බිත්තෙන් ඒ රේවතස්ථවිර
යන්වහන්සේ සඟමැදට පැමිනියේ සඞ්ඝයාට අස්වා ඒව
ස්තූව (අධර්මවාදීන් පිරිසෙන් පිටකිරීමවූ) උබ්බාහිකාවෙන්
48 සංසිඳුවන්නට නිශ්චයකළසේක. පෙරදිගවැසි භික්‍ෂූන්
සතර නමක්ද පාවෙය්‍ය සතර නමක්ද වස්තූව සංසිඳුවන
49 පිණිස උබ්බාහිකාවට සම්මත කළසේක. සබ්බකාමීය, සාළ්හ
ය, ඛුජ්ජසොභිතය, වාසභගාමිකයයි මේ පූර්වදිග්වාසීවූ ස්ථ
50 විරයෝය. සාණවාසී සම්භූතය, රේවතය, කාකණ්ඩපුත්‍රවූ
යසය, සුමනයයි මේසතර නම පාවෙය්‍යවූ ස්ථවිරයෝය,
රහත්වූ ඒ ස්ථවිර අටනම අල්පශබ්දවශයෙන් නිරවුල්කොට
51 ඒ වස්තූන් සංසිඳුවනුපිණිස වාලුකාරාමයට වැඩියාහුය. එ
තන්හි අභිනවවූ ඒ භික්‍ෂුනමක් විසින් පණවන ලද අස්
නෙහි සර්වඥයන්වහන්සේගේ අදහස් දත්තාවූ මහතෙරහු
52 වැඩහුන්හ. පූර්වාවන්හි දක්‍ෂවූ රේවතනම් මහාස්ථවිරයන්
වහන්සේ ඒ වස්තූන් අතුරෙන් එක එක පිළිවෙළින් සබ්බ
53 කාමීස්ථවිරයන් විචාළසේක. ඉක්බිති උන්වහන්සේ විසින්
විචාරණලද සබ්බකාමීනම් මහාස්ථවිරතෙම ඒ සියලුම
54 වස්තූහු කැපනොවෙත්යයි සූත්‍රදැක්වීමෙන් ප්‍රකාශකොටවදා
ළේය. ඒ ස්ථවිරයෝ තුමූ ඒ අධිකරණය පිළිවෙළින් බැහැර
කොටලා එහිම සඟමැද පිළිවෙළින් පිළිවිසීම් විසඳීම්
55 කළහ. ඒ මහාස්ථවිරයෝ තුමූ දශවස්තූන් ප්‍රකාශකළාවූ ඒ
56 දසදහසක් පාපභික්‍ෂූන්ට නිග්‍රහකළහ. සබ්බකාමීනම් ස්ථ
විරයන්වහන්සේ එකල ලෝකයෙහි සියලු සඞ්ඝයාට වැඩි
මහලුවූසේක, එකල්හි උන්වහන්සේ උපසම්පදාවෙන් එක
57 සියවිසිවයස් වූසේක. සබ්බකාමීය, සාළ්හය, රේවතය, ඛුජ්ජ
සොභිතය, කාකණ්ඩකපුත්‍රයසය, සාණවාසී සම්භූතය යන
මේ ස්ථවිරයන්වහන්සේලා ආනන්දස්ථවිරයන්වහන්සේගේ සද්ධි
58 විහාරිකවූ ශිෂ්‍යයෝය, වාසභගාමිකය, සුමනය යන මේ
59 ස්ථවිර දෙනම වනාහි අනුරුද්ධස්ථවිරයන්වහන්සේගේ සද්ධි
විහාරික ශිෂ්‍යයෝයි. පින්වත්වූ ඒ ස්ථවිර අටනමද පෙර
තථාගතයන්වහන්සේ දුටුවෝය. භික්‍ෂූන් දොළොස් ලක්‍ෂ
60 යක් රැස්වූහ, සියලුම භික්‍ෂූන්ට රේවතනම් ස්ථවිරයන්
61 වහන්සේ ප්‍රමුඛ වූයේය. එහෙයින් එකල්හි ඒ රේවත
ස්ථවිරයන්වහන්සේ බොහෝකල් සද්ධර්මයාගේ පිහිටීම
62 සඳහා, ධර්මසඞ්ගීතියක් කරවනු පිණිස සියලු භික්‍ෂූසමූ

ගයෙන් ප්‍රභෙද ප්‍රාප්ත අර්ථප්‍රතිසම්භිදාදී ඥානඇති පිටකත්‍රය
ධාරිවූ රහතුන්වහන්සේලා සත්සියයක් තෝරාගත්සේක.
63 රෙවතස්ථවිරයන්වහන්සේ ප්‍රමුඛකොට ඇත්තාවූ ඒ සිය
ල්ලෝ වාලුකාරාමයෙහි කාලාසොක (නම් නරනිඳුහු) විසින්
64 ආරක්ෂාකරණලද්දාහු ධර්මසඞ්ගායනා කළහ. පූර්වයෙහි
පූච්ඡාද කථනයද කරණලද්දාවූ ඒ ධර්මය මෙසේ ග්‍රහණය
65 කොට මේ (ධර්මසඞ්ගීතිය) අටමසකින් නිමවූහ. මෙසේ
66 ඒ මහායසස් ඇත්තාවූ දොෂක්ෂය ප්‍රාප්තවූ ස්ථවිරයන්වහන්
සේලාද දෙවෙනි සඞ්ගායනාවකොට කලකින් පිරිනිවන්
පා වදාළහ.

67 මෙසේ උත්තම ප්‍රඥාඇත්තාවූ පැමිනියාවූ ලොකොත්තර
විශෙෂ ධර්ම ඇත්තාවූ භවත්‍රය වාසීන්ට වැඩසිදුකරන්නාවූ
සර්වඥපුත්‍රයන් වහන්සේලාගේ ඒ මරණය සිහිකොට (ඇ
නිච නැතිවන) සඞ්ඛත ධර්මයන්ගේ සාරරහිත භාවය නිර
වශෙෂ වශයෙන් ප්‍රඥාවෙන් පරීක්ෂාකොට (සාධූජනතෙම)
ප්‍රමාදරහිත වන්නේය.

මෙතෙකින් හුදීජනයා ප්‍රසාදසංවෙග පිණිසකළ මහවස
දුතිය සඞ්ගීතිනම්වූ සතරවෙනි අදියර නිමියේයි.

---

# පස්වෙනි පරිච්ඡෙදය.

1 ආරම්භයෙහි මහාකාශ්‍යපාදී මහාස්ථවිරයන්වහන්සේලා
විසින් කරණලද ධර්මසඞ්ගීතිතොමෝ ථෙරීයායයි කියනු
ලැබේ.

2 ආරම්භ වර්ෂ සියයෙහි ඒ එකම ථෙරවාදය වීයේය, ඉන් මෑ
3 ත අන්‍යාචාර්‍ය්‍ය වාදයෝ උපන්හ. ඒ දෙවැනිවූ සඞ්ගායනා
කාරී ස්ථවිරයන් විසින් නිග්‍රහකරණලද සියලු දසදහසක්
ඒ පාපිභික්ෂුහු මහාසඞ්ගීති නම්වූ ආචාර්‍ය්‍ය වාදයක් කළා
4 හුය. ඒ මහාසඞ්ගීතික භික්ෂූන්ගෙන් ගොකුලිකය, එක
ව්‍යවහාරිකයයි ආචාර්‍ය්‍යවාද ඇති ලබ්ධි දෙකක භික්ෂූහු
5 වූහ, ගොකුලික භික්ෂූන්ගෙන් පුද්ගලපණ්ණත්තිවාදීහුය,
බාහුලිකයෝයයි ලබ්ධි දෙකක පිහිටි භික්ෂූහු වූහ. ඒ
භික්ෂූන් අතුරෙහිම චෙතියවාද නම්වූ අන්‍යමතයක පිහිටි
6 භික්ෂූහු වූහ. ඒ සියල්ලෝ මහාසඞ්ගීති නම් වාදය ඇත්
තෝය. නැවතද ථෙරවාදී භික්ෂූන්ගෙන් මහිංසාසක නම්

භික්ෂූහුය, වජ්ජිපුත්‍රක භික්ෂූහුයයි යන දෙකොටසවූහ.
7 ඒ වජ්ජිපුත්‍රක භික්ෂූහුම ධම්මුත්තරිය නම් භික්ෂූහුය, භද්‍රයා
නික භික්ෂූහුය, ඡන්නාගාරික භික්ෂූහුය සම්මිතිය භික්ෂූහු
8 යයි මෙසේ (සතරකොටසක්) වූහ. මහිංසාසක නම් භික්ෂූන්
ගෙන් නික්ම සබ්බත්ථිවාදී නම් භික්ෂූහුය, ධම්මගුත්තිය නම්
9 භික්ෂූහුයයි මේ දෙකොටසවූමය. යලිත් සබ්බත්ථිවාදීන්
කෙරෙන් නික්ම කස්සපිය භික්ෂූහු වූහ, එයින් සඞ්කන්තික
නම් භික්ෂූහු වූහ, එයින් වනාහි සුත්තවාද නම් භික්ෂූහු වූහ.
10 ඒ මොව්හු ථෙරවාදනම් මතඇති භික්ෂූන්හා සමග දෙ
ළොස් නිකායක් වෙති, පූර්වයෙහි කියනලද ෂඩ්වාදයෝ
11 දැයි මෙසේ සියල්ලෝම අටළොස් නිකායක්වූහ. මෙසේ
දෙවෙනි වර්ෂශතයෙහි සතළොස් මතයක්වූහ. ඉන්මෑත
12 අන්‍යවූ ආචාර්‍ය්‍යවාද උපන්හ. එනම්, හෙමවතයෝය
රාජගිරිකයෝය, එසේම සිද්ධාත්‍ථිකයෝය, පුබ්බසෙලිකනම්
භික්ෂූහුය. එසේම අපරසේලිකයෝය, වාජිරිකයෝය මේ
13 ෂඩ්විධ මතිකයෝ ජම්බුද්වීපයෙහි බිඳුනෝය, ධම්මරුචික
යෝය, සාගලිකයෝයයි ලඞ්කාද්වීපයෙහි භින්නාවූහ.——
ආචාර්‍ය්‍යවංශ භෙදයයි.

කාලාසොක රජහුගේ පුත්‍රවූ දසබෑ කෙනෙක් වූහ.
14 ඔව්හු දෙවිසිහවුරුදක් රාජ්‍යානුශාසනා කළහ, ඒ දසබෑ
15 රජුන්ට අනතුරුව නවනන්‍ද රජදරුවෝ පිළිවෙළින්වූහ,
ඔව්හුද දෙවිසිහවුරුදක් රාජ්‍යානුශාසනා කළහ.

16 ඉක්බිත්තෙන් ඒ චාණක්‍යනම් බ්‍රාහ්මණතෙම නන්‍ද රජුන්
අතුරෙහි නවවෙනිවූ ධනනන්‍ද රජහු චණ්ඩක්‍රොධයෙන්
17 මරවා මෞර්‍ය්‍යනම් ක්‍ෂත්‍රියයන්ගේ වංශයෙහි උපන්නාවූ
ශූධරවූ චන්‍ද්‍රගුප්තයයි ප්‍රසිද්ධවූ රාජකුමාරයා මුළු දඹදිව
රාජ්‍යයෙහි අභිෂෙක කෙළේය, ඒ චන්‍ද්‍රගුප්ත රජතෙම සූ
18 විසි හවුරුදක් රජය කෙළේය. ඔහු පිත් බින්‍දුසාර ක්‍ෂත්‍රිය
තෙම අටවිසි හවුරුදක් රජය කෙළේය. බින්‍දුසාර රජහුගේ
19 පුත්‍රයෝ තුමූ ප්‍රසිද්ධවූ එකසිය එකදෙනෙක් වූහ. ඔවුන්
අතුරෙන් ධර්මාශොක කුමාරතෙම පුණ්‍යතෙජොබල සමෘද්ධි
සම්පන්නාවූයේය, හෙතෙම භින්නමාතෘකවූ එකුන්සියයක්
20 සහෝදරයන් මරවා මුළුදඹදිව ඒකරාජ්‍යයට පැමිනි
යේය, සර්වඥයන්වහන්සේගේ පරිනිර්වාණයෙන් පසු ඒ
21 රජහු අභිෂෙකයෙන් පූර්වයෙහි වර්ෂ දෙසිය අටළොස මෙ
සේ දතයුතු. මහා යසස්ඇත්තේ සිවුවසතින් ඒකරාජ්‍යයට
පැමින පාටලීපුත්‍ර නගරයෙහි තමන් අභිෂෙක කෙළේය.
22 ඒ රජහුගේ අභිෂෙකයහා සමගම, අහසෙහිද එසේම භූමි

23 සෙහිද යොදුනක් යොදුනක් තන්හි ආශුව සතතයෙන්
පතළවිය, (ඒ රජනන්ට) දෙවියෝ අනොතත්ත විලෙහි
24 පැන්කත් අටක් දවසක් පාසා ගෙණවාහුය, නරේන්ද්‍රතෙම
එයින් ජනයාටද සංවිභාග කෙළේය, දෙවියෝම හිමවතින්
නොයෙක් දහස්ගණනකට පොහොනාවූ නාලියදැවටු ගෙ
25 ණවාහුය. එසේම බෙහෙත් ඇඹිලුහා බෙහෙත් අරළුද
වර්ණයෙන් ගන්ධයෙන් රසයෙන් උතුම්වූ අඹපලද එයින්ම
26 ගෙණවාහුය, (තවද) දෙවතාවෝ පඤ්චවර්ණ වස්ත්‍රයන්ද,
පීතවර්ණවූ අත්පිසිනා පිළිකඩද දිව්‍යපාන වර්ගද ඡද්දන්ත
27 විලින් ගෙණවාහුය, ඒ නුවර මැරෙන්නාවූ මුව ඌරු
28 ලිහිණියෝ ඒ රජහුගේ මුළුතැන්ගේලඟට අවුත් තමන්ම
මැරෙත්. එහි දිවියෝතුමූ ගවයන් ගොදුරුකවා ගාලට
29 ගෙණ එති. මුවන්හා ඌරෝ කොත් වත් විල් ආදීන්
රකිති. භූනැත්තාවූ දිව්‍යවූ සමන්මල්පටහා උපුල්ද විල
වුන්ද අදුන්ද, නාග විමානයෙන් නාගයෝ ගෙණඑති.
30 ගිරවු වනාහි හැල්ගැල් අනූදහසක් ඡද්දන්තවිලින්ම දින
31 පතා ගෙණවාහුය. මීයෝ ඒ හැල් නොකඩා දසෙවිය
කුඩුනැතිකොට සහල් සූඩකළහ. ඒ සහලින් රජගෙයි
32 බත සිඩවිය. ඒ රජහට සතතයෙන් මීමැස්සෝ මීබැන්දෝ.
33 එසේම ඒ රජහුගේ කම්බුරුහල්හි වලස්සු කුළුගැසූහ.
34 මනොඥමධුරස්වර ඇත්තාවූ කුරවිකෙවිල්ලෝ අවුත් ඒ
රජහට මධුරවූ කූජනය කළහ. අභිෂෙක කරණලදුවූ
35 ඒ අසොක රජතෙම ස්වකීයබාලසහෝදරවූ තිස්සනම්වූ
කුමාරයා උපරාජ්‍යයෙහි අභිෂෙක කෙළේසි—ධර්මාශො
කාභිෂෙකය නිමියේයි.

ඒ රජහු පියතෙම බ්‍රාහ්මපාක්ෂිකවූ සැටදහසක් බ්‍රාහ්ම
36 ණයන් වැලඳවිය, ඒ ධර්මාශොක රජතෙමේද තුන්හවු
රුද්දක් ඔවුන්ටම දන්දුන්නේය. නුවනැත්තාවූ අසොක
37 රජතෙම දන්දෙන තන්හිදී ඔවුන්ගේ අනුපසමය දැක
"පරීක්ෂාකොට දනය දෙන්නෙමු"යි ඇමැතියන් මෙහෙ
38 යා වෙන්වසයෙන් නානා පාෂාණ්ඩයන් ගෙන්වා හිඳීමෙන්
විමසා වලඳවා හැරියේය, කාලයෙක්හි සිවුමැදුරුගතවූ
39 ඒ රජතෙම විථියෙහි වඩනාවූ උපසම්ත සංසුන් ඉඳුරන්
ඇත්තාවූ ඒ නිග්‍රොධ සාමණේරයන් දැක සිත පැහැදවූ
යේය. ඒ නිග්‍රොධ සාමණේරතෙම බින්දුසාර රජහුගේ පුත්‍ර
40 යන් අතුරෙන් සියල්ලන්ට වැඩිමහල් සහෝදරවූ සුමන
නම් කුමාරයාගේ පුත්‍ර වූයේය—(එහි පිළිවෙළකථාව
මෙසේයි.)

ඒ අශෝක කුමාරතෙම පියානන්විසින් දෙනලද උදේනි
41 රට රාජ්‍යය හැර බිඳුසාර රජහු රෝගාතුරකල්හි පාටලිපුත්‍ර
නගරයට පැමිනියේය, පුරය තමා අයත්කොට ගෙණ පියා
මළකල්හි වැඩිමහල් සහෝදරයා මරා පුරවරයෙහි රාජ්‍යය
42 ගත්තේය. සුමනනම් කුමාරයාගේ සුමනා නම්වූ ගබ්සි
43 ණිවූ දෙවිතොමෝ ඒ පුරයෙන් නික්ම නැගෙණහිරි දෙ
44 රින්පිට සැඬොල් ගමට ගියාය. එහි නුගරුක අධිවාසීවූ
දෙවතාතොමෝ නමින් ඇය කැඳවා ගෙයක්මවා දුන්නා
45 ය, ඕතොමෝ එදවසම උතුම් පුතෙකු වදා දෙවතානුග්‍රහය
අනුවගියා පුත්‍රයාට නිග්‍රොධයයි නම්කළාය. සැඬොල්දෙටු
46 තෙම ඇය දැක තමා සාමිදුවමෙන් සිතන්නේ සත්හවුරු
දුක් මනාකොට ඇයට උවටන් කෙළේය. එකල්හි මහා
47 වරුණනම් අභීත් ස්ථවිරතෙම හෙතුසම්පන්නවූ කුමරුවා
දැක මෑනියන් විචාළේ ඒ කුමරුවා පැවිජිකරවූයේය, ඒ
48 කුමාරතෙම කරගෙහිම රහත්බවට පැමිනියේය. ඉක්
බිත්තෙන් ඒ නිග්‍රොධ සාමණේරතෙම මවු බිසවුන් දක්
නට යන්නේ පුරවරයට දකුණු දොරින් පිවිස, එකල රජ
49 මළුවෙහි ඒ ගමට යන මගින් යන්නේය. ඒ රජතෙම
ශාන්තවූ ඊර්‍ය්‍යාපථය කරණකොටගෙණ ඒ සාමණේරයන්
කෙරෙහි ප්‍රසන්නවූයේය.

50 පූර්වයෙහිම සමග විසීමෙන් උන්වහන්සේ කෙරෙහි
ප්‍රේමය උපන්නේය. (ඒ පිළිවෙළ කථාව මෙසේයි) පූර්ව
51 යෙහි වනාහි මීවෙළඳ තුන්බෑකෙනෙක්වූහ. එක් වෙළ
දෙක් මී විකුණයි, දෙදෙනෙක් මී ගෙණඑති, එකල එක්
52 පසේබුදුකෙණෙක් ව්‍රණරෝගයකින් ආතුරවිය, අන්‍යවූ
පසේබුදුකෙණෙක් උන්වහන්සේ පිණිස මී සොයමින්
53 එකල පිඬුසිඟන වතින් නුවරට පිවිසිසේක. දිය ගෙණෙනු
සඳහා තොටට යන්නාවූ එක් ඝටචෙටිකාවක් තොමෝ උන්
54 වහන්සේ දුටුවාය. විචාරා මී කැමතිබැව් දැන, "වහන්ස තෙ
ල මීසල්පිළය" අතින්දක්වා එහි වැඩිය මැනවැයි කීවා. එහි
55 පැමිණි පසේබුදුන්ට පහන්වූ ඒ වෙළඳතෙම, පාමුවෙන්
උතුරුවමින් පාත්‍රයපුරා මී දන්දුන්නේය, පිරුණාවූද ඉතිරී
56 ගියාවූද පොළෝතෙලෙහි වැටුනාවූද, මී දැක ප්‍රසන්නවූ ඒ
වෙළඳතෙමේ එකල්හි "මේ දානය කරණකොටගෙණ මට
ජම්බුද්වීපයෙහි එක රාජ්‍යය වේවා, අහස යොදුනක් තන්
57 හිඳ පොළොව යොදුනක් තන්හිඳ (මාගේ) ආඥාව පැතී
රේව" යි මෙසේ ප්‍රාර්ථනා කෙළේය. ආවාවූ සහොදරයන්ට
58 හෙතෙම "මෙබඳු කෙනෙකුට මිදුනිම් මී නුඹලාටද අයිති

හෙයින් නුඹලාත් ඒ අනුමෝදන් වච්ය" යි කීයේය, ඒ වැඩි
59 මහලු සහොදරතෙම නොසතුටු සිත්ඇතෙ "සැමකල්
හිම චණ්ඩාලයෝ කසාවත් හඳනාහුය, හෙතෙම චණ්ඩාල
යෙක් වන්නේවේහෝයි" කීයේය. මධ්‍යම තැනැත්තේ
60 "ඒ පසේබුදුන් මුහුදින් එතරදම" යි කීයේය, ඒ මධුදායක
යාගේ බස්අසා ඔව්හු ප්‍රාපනිදනය අනුමෝදන්වූහ.
61 ඒ සල්පිළ දැක්වූ සටවෙටිකාතොමෝ වනාහි ඒ මධුදාය
කයාගේ මෙහෙසි බැව්හා නොපෙණෙන සනධිඇති ඉතා
62 මනොහරවූ රූපයද ප්‍රාර්ථනාකළාය. මධුදායකවූ වෙළඳ
තෙම ධර්මාශොකනම් රජවූයේය, සටවෙටිකාතොමෝ
අසන්ධිමිත්‍රානම් දෙවී විය, චණ්ඩාලවාදීවූ වෙළඳතෙම
නිග්‍රොධ සාමණෙර වූයේය, පාරවාදීකවූ වෙළඳතෙම
63 දෙවැනි පැතිස්නම් රජවූයේය. යම්හෙයකින් හෙතෙම
චණ්ඩාලවාදී වීනම් එහෙයින් සැඩොල්ගම උපන්නේය,
යම්සේ මොක්ෂය ප්‍රාර්ථනාකෙළේද, එහෙයින් සත්හැවිරිදි
64 වයස් ඇත්තේම මොක්ෂප්‍රාප්තද වූයේය. එහෙයින් ඒ සාම
ණෙරයන් කෙරෙහි පිහිටි ප්‍රෙමඇති ඒ රජතෙම, ඉතා ශූඝ්‍ර
65 සුලුවූයේ ඔහු කැඳවූයේය, හෙතෙම සංසුන් පැවැතුම් ඇත්
තේම ලගට පැමිනියේය, රජතෙම දරුව සුදුසු අස්නෙක
හුනමැනවැයි කීයේය. හෙතෙම අන්‍යවූ ශ්‍රමණයෙකු නො
66 දැක සිංහාසනයකරා පැමිනියේය, ඒ සාමණෙරයානන්
පර්‍යඞ්කයකරා එනකල්හි රජතෙම "අද මේසාමණෙර
තෙම මාගේ ගෙයි ස්වාමිවන්නේය" යි සිතුයේය. හෙතෙම
67 රජහු අතඅල්වා පර්‍යඞ්කයට නැගේ රාජපර්‍යඞ්කයෙහි
68 සේසතයට වැඩහුන්නේය. ඒ ධර්මාශොක රජතෙම එසේ
හුන්නාවූ ඒ සාමණේයන් දැක, ගුණයෙන් සම්භාවනා
69 කොට, එකල අතිශයින්ම සතුටුවූයේය. ඒ සාමණෙරයන්
තමන්ට පිළියෙල කරණලද බාද්‍යභොජ්‍යයෙන්සතපා, සම්
70 බුදුන් වදළ ධර්මයක් විචාළේය. ඒ සාමණෙරතෙම ඒ රජ
හට දම්පියායෙහි අප්‍රමාද වර්‍ගය වදළේය, ඒ මිහිපල්තෙම
71 ඒ අසා බුද්ධශාසනයෙහි ප්‍රසන්නවූයේ "දරුව නුඹවහන්
සේට නිතිබත් අටක් දෙමැ" යි ඒ හෙරණුන්දට කීයේය,
ඒ සාමණෙරතෙම "මහරජ ඒ නිතිබත් මාගේ උපාධ්‍යා
72 යන්ට දෙමැ" යි කීයේය. නැවත අටක් දුන්කල ඒ අට
ආචාරීන්වද, නැවතත් අටක් දුන්කල්හි ඒ අට භික්ෂුසඞ්ඝ
73 යාටද ඒ සාමණෙරතෙම දුන්නේය. නැවතත් අටක් දුන්
කල්හි ප්‍රාඥවූ සාමණෙරතෙම ඉවසූසේක. දෙවෙනි දවස්
හි භික්ෂූන් දෙතිස්නමක් ගෙණ රජගෙට වැඩිසේක. රජහු

74 විසින් සියතින් තර්පණය කරණලද්දේ ධර්මදෙශනාතොට
මහජනයා සහිතවූ රජහු තිසරණ පන්සිල්හි පිහිටෙවූ
සේක. (නිග්‍රොධ සාමණෙර දර්ශනයි)
75 ඉක්බිත්තෙන් ප්‍රසන්නවූ ඒ රජතෙම, දවසක් දවසක්
පාසා පිළිවෙළින් විගුණයෙන් භික්ෂූන් සැටදහසකට උප
76 ස්ථාන කෙළේය, සැටදහසක් තීර්ථකයන් බැහැරකොට
77 සැටදහසක් භික්ෂූන් සතතයෙන් රජගෙහි වැළඳවිය. ඒ
රජතෙම සැටදහසක් භික්ෂූන්ට වලඳවනුපිණිස යුහුසුළු
78 වූයේ මාහැඟිවූ ඛාද්‍ය භොජ්‍යයන් පිළියෙලකරවා, නුවර
සරහවා ගොස් සඞ්ඝයා පවරා රජගෙට එඩාගෙණ වලඳවා
79 බොහෝවූ ශ්‍රමණ පරිෂ්කාර දන්දී ශාස්තෲන්වහන්සේ වි
සින් දෙසනලද ධර්මයතෙම කෙතෙක්දැයි විචාළේය, මො
ග්ගලිපුත්තතිස්ස නම් ස්ථවිරතෙම එකල ඔහට ඒ ප්‍රශ්නය
80 විසඳා වදාළේය, අසූසාරදහසක් ධර්මස්කන්ධයෝයයි අසා ඒ
රජතෙම "මම ඒ ධර්මස්කන්ධයන් එකක් එකක් වසයෙන්
81 (එක එක) විහාරයෙන් පුදමැයි කීයේය. රජතෙම එකල්හි
සයානුකෙළක් වස්තුදී මිහිතෙලෙහි අසූසාරදහසක් පුර
82 යන්හි ඒ ඒ තන්හි රජුන්ලවාම විහාරයන් ආරම්භකර
වූහ, තෙමේ අශොකාරාමය කරවනුනට ආරම්භකෙළේය.
83 ඒ රජතෙම රත්නත්‍රය, නිග්‍රොධ සාමණෙරය ගිලන්හුය
යන මොවුන්ට ශාසනයෙහි වෙන් වෙන් වශයෙන් දවසක්
84 දවසක් පාසා ලක්ෂයක් බැගින් ධනය දෙවූයේය. බුදුන්ට
දෙනලද ධනයෙන් සෑමකල්හි නොයෙක් විහාරයන්හි
85 නොයෙක් පරිද්දෙන් ධූප පූජාකළහ. මනුෂ්‍යයෝ තුමූ ධර්ම
යට දෙනලද ධනයෙන් ප්‍රණීතවූ සිවුපසයන් ධර්මධර
86 භික්ෂූන්ට පැමිනවූහ. අනවතප්තවිල පැන්කඳින් දවසක්
දවසක් පාසා සතරක් සඞ්ඝයාටද, ත්‍රිපිටකධර භික්ෂූන් සැට
87 නමකට එකක්ද දුන්නේය, එකක් අසන්ධිමිත්‍රා නම් දෙවි
යට දෙවිය. මිහිපතිතෙම දෙකක්ම තමන් පරිභොග
88 කෙළේය. දවසක් දවසක් පාසා සැටදහසක් භික්ෂූන්ටද,
සොළොස් දහසක් ස්ත්‍රීන්ටද නාගලතා නම්වූ දැහැටිදින.
89 ඉක්බිති එක් දිනක් රජතෙම චතුස්සම්බුද්ධයන්ගේ දර්ශ
නයඇත්තාවූ මහත් සෘද්ධිඇති කල්පායුෂකවූ මහාකාලනම්
90 නාරජහු පවත්අසා, ඔහු ගෙණඑන්ට ස්වර්ණශඞ්ඛලික
91 බන්ධනය යවා, ඔහුගෙන්වා, ස්වේතයට පළගෙහි හිඳුවා,
නානාවිධ පුෂ්පයෙන් පුදා, සොළොස්දහසක් ස්ත්‍රීන් පිරි
92 වරා "පින්වත සද්ධර්මචක්‍රවර්තිවූ අනන්තඥනඇත්තාවූ
මහර්ෂිවූ සර්වඥයන්වහන්සේගේ රූපය මට දක්වව"යි

93 කීයේය. දෙතිස්මහා පුරිස්ලකුණෙන් යුක්තවූ අසූවක් අනු
ව්‍යඤ්ජනයෙන් බබලන්නාවූ ව්‍යාමප්‍රභාමණ්ඩලයෙන් වට
කරණලද්දාවූ කේතුමාලාවෙන් විශේෂයෙන් හෙබියාවූ ම
94 නොඥවූ බුද්ධරූපය ඒ නාගරාජතෙම මවාපෑයේය. ඒ දැක
අධිකවූ ප්‍රසාදයෙන් හා විස්මයෙන්ද පිරුණේ "මොහුවිසින්
95 මවනලද රූපය මෙබඳුය තථාගතයන්වහන්සේගේරූපය
කෙබඳුහෝයි" ප්‍රීතියෙන් අතිශයෙන් උසස්වූයේය. මහත්
96 සෘද්ධි ඇත්තාවූ ඒ මහරජතෙම අක්ෂිපූජායයි නම්වූ ඒ මහත්
97 වූ පූජාවක් සත්දවසක් නිරතුරුකොට කරවූයේය, මිහිපතී
තෙම මෙසේ මහානුභාව ඇත්තේත් ශ්‍රද්ධාඇත්තේද විය.
මොග්ගලිපුත්තතිස්ස නම්වූ ස්ථවිරතෙමේද යන ඔව්හු පූර්ව
යෙහි රහතුන්විසින් දක්නාලද්දෝය.—ධර්මාශෝක රජ
හුගේ ශාසන ප්‍රවේශය නිෂ්ඨිතයි.

98 දෙවෙනි සඞ්ගායනාවෙහිදී ඒ ස්ථවිරයෝතුමූ අනාගතය
බලන්නාහු ඒ ධර්මාශෝක රජහුගේ කාලයෙහි වන ශාස
99 නොපද්‍රවය දුටහ, ඒ උපද්‍රවය නසන්නෙකු සකලලෝක
යෙහි බලන්නාහු නොබෝකල් පවත්නා ජීවිත ඇත්තාවූ
100 තිස්සනම් බ්‍රහ්මයා දුටහ, ඒ ස්ථවිරයෝතුමූ මහාප්‍රඥඇති
101 ඔහුවෙත එළඹ මිනිසුන් කෙරෙහි ඉපිද ඒ උපද්‍රව නැසීම
ඉල්වූහ. සසුන් බබලවනු කැමැතිවූ හේතෙම ඒ ස්ථවිර
යන්ට ප්‍රතිඥා දුන්සේක. සිග්ගවය චණ්ඩවජ්ජිය යන නම්
102 ඇත්තාවූ බාල භික්ෂූන් දෙදෙනාට ඒ ස්ථවිරයෝ මෙසේ
වදාළහ. "අටළොසක් අධිකවූ හවුරුදු සියයකින් මත්තෙහි
103 ශාසනයට උවදුරෙක් වන්නේය, අපි ඊට නොපැමිණෙම්හ,
ඇවැත්නි තෙපි මේ අධිකරණයට නොඑළඹුනාහ එහෙ
සින් දඬුවමට සුදුසුයහ, මේ තොපට දඬුවම්නම්වේ. සසුන්
104 බැබලවීම පිණිස මහත් ප්‍රඥඇත්තාවූ තිස්සනම් බ්‍රහ්ම
තෙම මොග්ගලිනම් බ්‍රාහ්මණයාගේ ගෙහි පිළිසිඳගන්
105 නේය. තොප අතුරෙන් එක්කෙනෙක් ඒ කුමාරයා පැවිදි
කෙරේවා. එක නමක් සර්වඥ වචනය මනාකොට උගන්
වාව" (සී වදාළහ.)

106 උපාලිස්ථවිරයන් වහන්සේගේ සද්ධිවිහාරිකවූ දාසකනම්
ස්ථවිරකෙනෙක ඒ තෙරුන් සද්ධිවිහාරිකවූ සෝණස්ථවිර
කෙනෙක්විය මේ සිග්ගව, චණ්ඩවජ්ජි දෙදෙනා සෝණ
තෙරුන් සද්ධිවිහාරිකයෝවූහ.

(එහි පිළිවෙළකථාව මෙසේය.)

107 පූර්වයෙහි විසාලාමහනුවර දාසකනම් බ්‍රාහ්මණයෙක්
විය, ශිෂ්‍යයන් තුන්සියයකට ප්‍රධානවූ හෙතෙම ආචාරීන්

108 සමීපයෙහි වසන්නේ දෙළොස්හැවිරිදි වූයේම වේදයෙහි
පාරප්‍රාප්තවූයේ ශිෂ්‍යයන් සහිතව හැසිරෙන්නේ වාලිකා
රාමයෙහි වසන්නාවූ කරණලද සඞ්ග්‍රහඇති උපාලිතෙ
109 රුන් දැක උන්වහන්සේ සමීපයෙහි හිඳ, වේදයන්හි ග්‍රන්ථි
ස්ථානයන් විචාළේය. උන්වහන්සේ ඒ විසඳූසේක (ඉක්බිති)
"මානවකය සියලු ධර්මයන් අනුවවැටුනාවූ එක්ධර්මයක්
110 වේ, සියලු ධර්මයෝ එහි බැසගණිති ඒ ධර්මය කවරේදැ"යි
111 ස්ථවිරතෙමෙ නාමය සඳහා කීසේක, මානවකතෙමේ
නොදනෙත් "මේ කවර මන්ත්‍රයෙක්දැ"යි විචාළේය, බුඩ
112 මන්ත්‍රයයි කියනලදුයේ (ඒ අපටත්) "දුනමැනව"යි කී
යේය, "අපවෙස් දරන්නෙකුට දෙමැ"යි කීයේය, මන්ත්‍ර
113 පිණිස ආචාර්‍ය්‍යයන්හා මවුපියන් පිළිවිස මේතෙමේ මාන
114 වකයන් තුන්සියයහා සමග ස්ථවිරයන්වහන්සේ සමීපයෙහි
පැවිදිව සුදුසු කාලයෙහි උපසම්පන්නවිය. ඒ උපාලිස්ථවිර
තෙම දාසකස්ථවිරයන් ප්‍රධානකොට ඇත්තාවූ රහතුන් දහ
115 සකට ත්‍රිපිටකය ඉගැන්වූසේක. යම්කෙනෙක් ඒ ස්ථවිර
යන්වහන්සේ සමීපයෙහි පිටකයන් උද්ග්‍රහණයකළෝද ඒ
ශ්‍රොතාපන්නාදි ශෛක්ෂ්‍යයන් හා පෘථග්ජනයෝ ගණනින්
ඉක්ම පැවැත්තාහුය.

116 කාසීජනපදයේහි සොණකනම්වූ සාර්ථවාහ පුත්‍රයෙක්
විය, වෙළඳාම් පිණිස මවුපියන්හා රජගහනුවරට ගියාවූ
117 පසළොස් හැවිරිදිවූ ඒ කුමාරතෙම, වේළුවනාරාමයට ගි
118 යේය. මානවකයන් පස්පණස්දෙනෙක් උහු පිරිවරා
ගියහ, එහි පිරිවර භික්ෂුසමූහයා සහිත දාසකනම් ස්ථවිර
යන් දැක ප්‍රසන්නව පැවිදිඉල්විය, ඒ ස්ථවිරයන්වහන්සේ
119 තොපගේ මවුපියන්ගෙන් විචාරවයි වදාළසේක. ඒ සොණ
කනම් කුමාරතෙම බත් තුනක් අනුභවනොකොට මවුපි
120 යන්ලවා ප්‍රව්‍රජ්‍යාවට අනුඥාකරවාගෙණ ආයේය. ඒ පිරිවර
කුමරුන් සමග දාසකස්ථවිරයන්වහන්සේ සමීපයෙහි පැවි
121 දිව උපසම්පදා ලැබ ත්‍රිපිටකය උගත්තේය, ඒ සොණක
නම් යතිතෙම පිටකත්‍රය දන්නාවූ ක්ෂීණාශ්‍රවයන් දහසක්
ඇති දාසකස්ථවිර ශිෂ්‍යසමූහයාට ජ්‍යෙෂ්ඨවූයේය.

122 පාටලි නම් නගරයෙහි ප්‍රාඥවූ සිග්ගවනම් අමාත්‍ය පුත්‍ර
යෙක් වූයේය, අටළොස් හවුරුදුඇති හේතෙමේ සෘතුත්‍ර
123 යට යහපත්වූ ප්‍රාසාදත්‍රයෙහි වසන්නේ චණ්ඩවජ්ජි නම්වූ
යහලු අමාත්‍යපුත්‍රයා කැටිව ලාගෙණ, පුරුෂයන් පන්සිය
124 යක් විසින් පිරිවරණලදුයේ කුක්කුටාරාමයට ගොස් සමා
පත්තියට සමවැද වසනලද ඉන්ද්‍රියඇතිව වැඩහුන් සොණ

125 කා ස්ථවිරයන් දුටුයේය, වැන්දකල කථානොකරන්නාවූ උන්
126 වහන්සේ එහි වැඩඋන් ඒ සඞ්ඝයා විචාළේය, සමාපත්තියට
සමවන්නෝ කථානොකරෙත්යයි ඒ භික්ෂූහු වදාළහ; කෙ
127 සේනම් නැගිටිත්දැයි විචාරණලදුවූ භික්ෂූහු කථනයක
ළෝ "ශාස්තෘන්වහන්සේගේ කැඳවීමෙන්ද සඞ්ඝයාගේ
කැඳවීමෙන්ද කාලපරිච්ඡේදයවූ පරිද්දෙන්ද ආයුසයාගේ
128 ක්ෂයවීම වසයෙන්ද, නැගිටීත්යයි කියා ඔවුන්ගේ හේතු
සම්පත් දැක සඞ්ඝයාගේ වචනයක් යැවූහ; ඒ ස්ථවිරතෙමේ
129 නැගිට එහි වැඩිසේක. කුමාරතෙම "වහන්ස කුමකැයි
කථානොකළසේක්දැ"යි විචාළේය. "අනුභව කටයුත්තක්
අනුභව කළම්හ"යි ස්ථවිරතෙම වදාළේය. අපටත් අනුභව
130 කරවුවමැනවයි කුමාරතෙම කීයේය, "අපවැනිවූ කල්හි
අනුභවකරවනු හැකිය"යි ස්ථවිරතෙම වදාළේය. ඉක්බිත්
131 තෙන් මවුපියන්ගේ අනුදැනීමෙන් ඒ සිග්ගව කුමාරතෙ
මේද, චණ්ඩවජ්ජී කුමාරතෙමේද, ඒ පන්සියයක් පූරුෂ
යෝද සොණකනම් ස්ථවිරයන්වහන්සේගේ සමීපයෙහි පැ
132 විදිව උපසම්පන්නව ඒ දෙනම උපාධ්‍යායයන් සමීපයෙහිම
133 පිටකත්‍රයද උගත්හ, සුදුසුකාලයෙහි ෂට්අභිඥද ලැබූහ.

ඒ සිග්ගවනම් ස්ථවිරතෙම තිස්සකුමාරයන් පිළිසිඳිම දැන
134 එතැන් පටන් සත්හවුරුද්දක් ඒ ගෙට එළඹියේය. යවයි
යන වචනමාත්‍රයකුත් සත්හවුරුද්දක් නොලද්දේය, අටවෙ
නි හවුරුදුයෙහි (අන්තැනකට) යව යන වචනයක් එතැන
135 දී ලද්දේය. ගෙට යන්නාවූ මොග්ගලිනම් බමුණුතෙම නික්
මයන්නාවූ උන්වහන්සේ දැක අපගේ ගෙයිදී කිසිදෙයක්
136 ලද්දේදැයි විචාළේ. හෙතෙම එසේයයි කීයේය. (ඒ බ්‍රාහ්ම
ණතෙම) ගෙට ගොස් විචාරා එයින් දෙවෙනි දවස්හි ගෙට
පැමිනි ස්ථවිරයන්වහන්සේට මුසාවාදයෙන් නිග්‍රහකෙ
137 ළේය. (වචන මාත්‍රයක් ලැබීම සඳහා ලද්දේයයි කියන
ලදුවූ ඒ) ස්ථවිරයන්වහන්සේගේ බස්අසා ප්‍රසන්නවූ ඒ
138 බමුණුතෙම තමන්ට කරණලද බතින් උන්වහන්සේට
නිති බතක් පැවැත්වූයේය. ක්‍රමයෙන් ඒ ගෙයිවැසි සියලුම
මනුෂ්‍යයෝ උන්වහන්සේට ප්‍රසන්නවූහ, බ්‍රාහ්මණතෙම
උන්වහන්සේ ගෙයි වැඩහිඳුවා සැමදම වැළඳවූයේය.
139 මෙසේ ක්‍රමයෙන් කල්ගෙවෙන කල්හි ත්‍රිවෙද නැමැති ස
යුර පරතෙර පැමිනි ඒ තිස්සකුමාරතෙම සොළොස් හැවිරිදි
140 වයස් ඇතිවූයේය. ස්ථවිරතෙම (මෙසේ මේ ගෙහි) කථාහට
ගැණීමක් වන්නේයයි සිතා (එක් දවසක්) බ්‍රාහ්මණ මාන
වකයාගේ ආසනය හැර (අන්‍යවූ) ආසනයන් අතුරුදහන්

141 කළසේක. ඒ බ්‍රාහ්මණ මානවකතෙම බඹලොවින් ආයෙ
සිත්ද පවිත්‍ර කැමැත්තේය. එහෙයින් ඔහු හිඳිනා පර්‍ය්‍ය
142 ඞ්කයතෙම වස්ත්‍රයෙන් වසා එල්වාතබනුලැබේ. ස්ථවිර
යන්වහන්සේ වැඩසිටිකල්හි අන්‍යවූ ආසනයක් නොදකි
මින් සම්භ්‍රම සහිතවූ ගෙසිවැසි ජනතෙම ඒ බ්‍රාහ්මණ මාන
වකයාගේ ආසනය තෙරුන්වහන්සේට පැණවූයේය.
143 මානවකතෙම ආචාර්‍ය්‍යයන් සමීපයෙන් අවුත් එහි උනනාවූ
144 තෙරුන්වහන්සේ දැක කිපී පරුෂවචන කීයේය. ස්ථවිර
තෙම "මානවකය කිමෙක මන්ත්‍ර දන්නෙහිදැ"යි ඕහට කී
සේක, මානවකතෙම එම ප්‍රශ්නය ස්ථවිරයන්වහන්සේට
145 ප්‍රත්‍යාරොපණය කෙළේය. ස්ථවිරයන්වහන්සේ "මන්ත්‍රදනි
මැ"යි ප්‍රතිඥාකළකල්හි ඒ මානවකතෙම ස්ථවිරයන්වහන්
146 සේගෙන් වෙදයෙහි ග්‍රන්ථිස්ථානයන් විචාළේය; ඉක්බිත්
තෙන් ස්ථවිරතෙම ඕහට (ඒ ප්‍රශ්නයන්) විසඳා වදාළසේක,
ඒ ස්ථවිරතෙම (පූර්‍වයෙහි) ගෘහස්ථවූයේම වෙදයෙහි පාර
ප්‍රාප්තවූයේය, ප්‍රතිසම්භිදාප්‍රභෙද ප්‍රාප්තවූයේ ඕහට කිමෙ
කැයි ප්‍රකාශනොකරන්නේද? නිසියවූ ස්ථවිරතෙතෙමේද
(මානවකය තාවිසින් බොහෝ ප්‍රශ්නයන් පිළිවිසිනලද්දෙමි
මමද එකක් තා පිළිවිසින්නෙම්දැයි කියා පිළිවිසිනු මැනවයි
147 ප්‍රතිඥාදුන්කල්හි) "යමෙකුගේ චිත්තයක් උපදිද නිරුද්ධ
නොවේද ඔහුගේ චිත්තය(මතු) නිරුද්ධවන්නේය, නූපදනේ
ය. යමෙකුගේ චිත්තයක් හෝ වනාහි මතු නිරුද්ධවන්නේද
නූපදනේද ඔහුගේ චිත්තය උපදනේය නිරුද්ධනොවෙයි"
148 යන ඒ චිත්තයමකයෙහි ප්‍රශ්නය විශාරද ස්ථවිරතෙමේ (මා
නවකයා) විචාළසේක. ඒ ප්‍රශ්නයතෙම උහුට අන්ධකාර
149 යක්මෙන් වූයේය, හෙතෙම "මහණ මේ කවරනම් මන්ත්‍ර
යෙක්දැ"යි ඒ තෙරුන්වහන්සේට කීයේය. ඒ ස්ථවිරතෙම
"බුද්ධමන්ත්‍රය"යි වදාළේය. මටද (මන්ත්‍රය) දෙවයි" කී
කල්හි "එය අපගේ වෙස් දරන්නෙකුට දෙමැ"යි වදාළ
150 සේක. ඒ මානවකතෙම මන්ත්‍ර පිණිස මවුපියන් විසින්
අනුදන්නාලද්දේ පැවිදිවූයේය. ස්ථවිරතෙම (ඒ මානවකා
යා) පැවිදිකොට සුදුසු පරිද්දෙන් කමටහන් දුන්සේක.
151 මහාප්‍රඥඇත්තේ භාවනාවෙහි යෙදෙමින් නොබෝකල
කින් සොවාන්පලයට පැමිනියේය, ඒ සිග්ගවනම් ස්ථවිර
152 තෙම එසේ සෝවාන්පලයට පැමිනිබැව් දැන චණ්ඩවජ්ජි
නම් ස්ථවිරයන්වහන්සේ වෙත සූත්‍රාභිධර්මයන් උද්ග්‍රහ
153 ණය පිණිස යැවූයේය, උන්වහන්සේ එහිදී ඒ ඉගැන්ම
කළසේක, ඉක්බිත්තෙන් ඒ තිස්සනම් ලදරුභික්ෂුතෙම

154 විදර්ශනාභාවනාව ආරම්භකොට, සුදුසු කාලයෙහි ෂඩ්භිඥා වෙන් යුක්තවූ අභීත්වූසේක. ස්ථවිර භාවයටද ප්‍රාප්තවූ
155 සේක. ඒ ස්ථවිරතෙම චන්ද්‍රයාසෙයින්ද සූර්‍ය්‍යාසෙයින්ද අතිශයින් ප්‍රකටවූයේය. ලෝවැසිතෙම උන්වහන්සේගේ වචනය සර්වඥයන් වහන්සේගේ වචනයමෙන් සැලකූයේය——මොග්ගලිපුත්තනම් ස්ථවිරයන්වහන්සේගේ පහළවීම මෙසේයි.

එක් දිනක් උපරජතෙමේ මුවදඩගියේ වනයෙහි කෙ
156 ළෙනා මුවන් දුටුයේය. ඒ දැක "වනයෙහි තණපත් ගොදුරුකොට ඇත්තාවූ මුවෝපවා මෙසේ ක්‍රීඩා කෙරෙති. කි
157 මෙක සැපවූ ආහාරවිහරණ ඇත්තාවූ භික්ෂූහු ක්‍රීඩා නොකෙරෙද්ද" යි මෙසේ සිතුයේය. ඒ (යුවරජතෙම) ගෙටගියේ තමන් සිතිවිලල රජහට දැන්වූයේය. ඕහට හගවන පිණිස
158 ඒ රජතෙම සත්දවසකට රාජ්‍යය දුන්නේය "එම්බා කුමාරය තෝ මේ රාජ්‍යය සත්දවසක් අනුභවකරව ඉන්මතු
159 තා මරවන්නෙමි" යන මේ වචනයද රජතෙම කීයේය. සත්දවස ඉක්මුනකල්හි (වැහැරුණුවූ යුවරජහු දැක, "තෝ කුමකින් කෘශවූයෙහිද" යි රජතෙම කීයේය. "මරණ
160 හේතුවෙන්වන්නාවූ භයකරණකොට ගෙණය" යි කීකල්හි ඕහට රජතෙම නැවත (කියන්නේ) "මම සත්දින
161 කින් මැරෙන්නෙමැයි සිතා තෝ ක්‍රීඩා නොකෙළෙහිය, දරුව සැමකල්හි මරණ සංඥා ඇත්තාවූ මේ භික්ෂූහු කෙසේ ක්‍රීඩා කෙරෙද්ද" යි කීයේය. මෙසේ සහෝදරයා විසින් කියනලද්දවූද හෙතෙම බුඩශාසනයෙහි ප්‍රසන්නවූයේය.
162 ඒ ප්‍රාඥවූ යුවරජතෙම කලෙක මුවදඩගොස් වෘක්ෂමූලයෙක්හි හුනනාවූ සල්අත්තකින් ඇතෙකුවිසින් පවන්සලනු
163 ලබනනාවූ සන්හුන්වූ මහාධම්මරක්ඛිත නම් රහත්තෙරුන් දැක "මේ ස්ථවිරයන්වහන්සේ මෙන් මමද බුඩශාසනයෙහි
164 පැවිදිව කවරකලෙක වනයෙහි වෙසෙම්ද" යි සිතුයේය, ස්ථවිරතෙම ඔහුගේ ප්‍රසාද පිණිස උඩනැගී අහසින් ගොස්
165 අසොකාරාමයබද පොකුණුදියමතුයෙහි සිටිසේක්, උතුම්වූ
166 සිවුරු අහස තබා පොකුණට බැස; ජලයෙන් ශරීරපරිශෙවනය කළසේක. උපරජතෙම ඒ සෘඩිය දැක අතිශයින්ම
167 පැහැද නුවනැත්තේ "අදම පැවිදිවෙමි" යි බුඩියක්ද කෙළේ (මහ) රජනත්කරා එළබ ආදරසහිතවූයේ පැවිදි
168 පිණිස යාච්ඤාකෙළේය. මහිපතිතෙම වලක්වනු නොහැක්කේ ඔහු ගෙණ මහපිරිවරින් තෙමේම විහාරයට ගියේය.

169 හෙතෙම මහාධම්මරක්ඛිතනම් ස්ථවිරයන්වහන්සේ සමී
පයෙහි පැවිදිවූයේය, උහුහා සමග සාර්ලක්‍ෂයක් මනුෂ්‍ය
170 යෝද පැවිදිවූහ. උහු අනුව පැවිදිවූවන්ගේ ගණනෙක්ද
නොමැත්තේය. අග්ගිබ්‍රහ්මයයි ප්‍රසිද්ධවූ රජහුගේ බෑණ
171 නුවෝ රජහුගේ දියනිවූ ඒ සඞ්ඝමිත්‍රාවගේ ස්වාමිපුරු
ෂයා වූයේය, ඔහුගේ පුත්‍රතෙමේද නාමයෙන් සුමන නම්
ඇතිවූයේය, හෙතෙමේද රජහට යාච්ඤාකොට යුවරජුහා
172 පැවිදිවූයේය, මහජනයාගේ වැඩසිදුවීම ඇත්තාවූ ඒ උප
රජහුගේ පැවිදිවීම තොමෝ ඒ අසෝක මහරජහුගේ (රා
173 ජ්‍යාභිෂෙකයෙන්) සතරවෙනි හවුරුදුයෙහි විය, එහිම
උපසපන්වූ උපනිශ්‍රය සම්පන්නවූ ඒ යුවරජතෙම වීර්‍ය්‍ය
වඩන්නේ ෂඩ්අභිඥා සහිත රහත්පලයට පැමිනිසේක.

174 සියලු පුරයන්හි ආරම්භකරණලද්දාවූ ඒ මනහරවූ විහා
රයන් තුන්හවුරුද්දකින් මනාකොට නිමවූහ. කර්මාධි
175 ෂ්ඨායකවූ ඉන්ද්‍රගුප්ත නම් ස්ථවිරයන්වහන්සේගේ සෘද්ධිබලය
කරණකොටගෙණ අසොකාරාම නම් විහාරයද වහා නිම
176 විය. මහීපාලතෙමේ සර්වඥයන්වහන්සේ විසින් පරිභොග
කරණලද ඒ ඒ තන්හිද සිත්කලුවූ චෛත්‍ය කරවූයේය
177 “විහාරයෝ නිමවනුලද්දාහුය”යි හසුන්පත් හාත්පසින්
සුවාසූ දහසක් නුවරින් එකදිනම ගෙණවාහුය. මහත්
178 තෙජස් සෘද්ධිවික්‍රම ඇත්තාවූ මහරජතෙම පත්හසුන් අසා
සියලු ආරාමයන් සම්බන්ධවූ මහපූජාව එකවරම කරණු
179 කැමැතෙන් “මෙයින් සත්වනා දවස්හි සියලු දෙසයන්හි
සියලු ආරාමපූජාව එකවිට වේවා මිහිතෙලෙහි යොදුනක්
180 යොදුනක් තන්හි මහදන් දෙත්වා ග්‍රාමාරාමයන්ගේද
181 මාර්ගයන්ගේද සැරසිලිකෙරෙත්වා සියලු විහාරයන්හිද
භික්‍ෂුසඞ්ඝයාට සර්වප්‍රකාරයෙන් ශක්තිවූපරිද්දෙන් මහදන්
182 පවත්වත්වා, පහන්මාලා මල්මාලා අලඞ්කාරයෙන්ද ඒ ඒ
183 තන්හි සියලු තූර්‍ය්‍යයෙන්ද නොයෙක් පරිද්දෙන් පූජා ප
වත්වත්වා සියල්ලෝ පෙහෙවස් අඟයන් ඉටාගෙණ ධර්‍ම්ම
184 යද අසත්වා එදවස්හිද නොයෙක් පූජාවිශෙෂයන්ද කෙ
රෙත්ව”යි පුරයෙහි බෙරහැසිරවූයේය. සියල්ලෝ සැම
185 තැනම සර්වප්‍රකාරයෙන් ආඥකළ පමණටත් වැඩිවූද දෙව්
ලොව සැණකෙළිසෙයින් මනරම්වූ පූජාවන් පිළියෙල
කළහ.

186 එදවස ඇතොවුරන් සහිතවූ ඇමැතියන් සහිතවූ ඇත්
අස් ආදි සෙන්රැස් විසින් පිරිවරණලද සව්අබරණින් සැර
187 සුනු මහරජතෙම මිහිතල බිඳිනසේ අසෝකාරාමයට පැමි

නියේ උත්තම සඞ්ඝයා වැඳ සගමැද සිටියේය. ඒ සමා
188 ගමයෙහි අසූකෙළක් භික්ෂූහු වූහ, උන්වහන්සේලා අතු
රෙහි අසීත් භික්ෂූහු ලක්ෂයක් වූහ. එහි අනූලක්ෂයක් භික්ෂු
189 ණීහු ඇතිවූහ, ඔවුන් අතුරෙහි රහත් මෙහෙණීන්නෝ
190 දහසක්වූහ. ඒ රහතුන් වහන්සේලා ධර්මාශොක රජහුගේ
ප්‍රසාදය පිණිස ලොකවිවරණ නම් ප්‍රාතිහාර්‍යයක් කළහ.
(ඒ රජතෙම) පාපකර්මය කරණකොටගෙණ පූර්වයෙහි
191 චණ්ඩාශොකයයි ප්‍රකටවූයේය, පසුව පුණ්‍යකර්ම බලයෙන්
ධර්මාශොකයයි ප්‍රකටවූයේය. ඒ රජතෙම මුහුද කෙළවර
192 කොට ඇති දඹදිව හාත්පසින්ද නානා පූජයෙන් අලඞ්කෘ
තවූ සියලු විහාරයන්ද දුටුයේය. ඒ විහාරයන් දැක අතිශයෙ
193 න්ම සතුටුව හිඳ "වහන්ස බුඩශාසනයෙහි කාගේ පරිත්‍යා
ගයෙක් මහත්ද"යි සඞ්ඝයා විචාළේය, ඒ මොග්ගලිපුත්ත
194 නම් ස්ථවිරතෙම "සර්වඥයන්වහන්සේ ජීවමාන කාලයෙ
හිද තොපහා සමවූ ත්‍යාගවන්තයෙක් නැත්තේය" යි රජ
හුගේ ප්‍රශනය විසඳා වදාළේය. එබස් අසා සතුටුවූ රජතෙම
මත්තෙහිද "මා වැන්නාක් බුඩශාසනයෙහි නෑයෙක් වේ
195 ද"යි නැවතත් ඒ ස්ථවිරයන් විචාළේය. ශාසනභාරධාරීවූ
ඒ ස්ථවිරතෙම මහින්දනම්වූ රාජපුත්‍රයාගේද එසේම සඞ්ඝ
196 මිත්‍රානම්වූ රජදුවගේද හේතුසම්පත් බලා "එබඳුවූ මහා
197 පරිත්‍යාග ඇත්තෙක්ද ශාසනයාගේ දායාදයෙක් නොවන්
198 නේය, නරෙන්ද්‍රය හෙතෙම ප්‍රත්‍යය දායකයයි කියනු ලබන්
නේය, යමෙක්තෙම වනාහි පුතෙක් හෝ දුවක් හෝ සස්
199 නෙහි පැවිදිකරවාද හෙතෙම ශාසනයට දායාදවන්නේය
හුදෙක් දායකම නොවන්නේය" යි රජහට ප්‍රතිවචන වදා
200 ළේය. ඉක්බිත්තෙන් ශාසන දායාදභාවය පතන්නාවූ මිහි
පතිතෙම "කිමෙක දරුවෙනි පැවිදිවන්නාහුද ප්‍රව්‍රජ්‍යා
තොමෝ මහත්යයි දන්නාලද"යි එහි සිටියාවූ මිහිඳුකුමරුද
සම්මිත් කුමරියද විචාළේය.

201 පියානන් බස් අසා ඔව්හු "දෙවයන්වහන්ස ඉදින්
202 ඔබ කැමැතිසේක් නම් අදම පැවිදිවන්නෙමු පැවිද්
දෙන් අපටද නුඹවහන්සේටද ලාභය"යි පියරජනන්ට
කිවුය. ඒ මහින්ද කුමාරතෙම යුවරජහු පැවිදිවූකල් පටන්ද
203 ඒ සම්මිත් කුමරිතොමෝ අග්ගිබ්‍රහ්ම කුමාරයා පැවිදිවූ කල්
පටන්ද පැවිදිවීම පිණිස කරණලද නිශ්චය ඇතිවූහ. මහී
204 පතිතෙමේ උපරජ තනතුර මිහිඳු කුමරුහට දෙනුකැමැත්
තේද ඊටත්වඩා (පැවිද්දෙහි) අධිකවූ ආසායයි ප්‍රව්‍රජ්‍යාවටම
205 රුචිකෙළේය. ශුනරූප බලයෙන් ප්‍රකටවූ මහෙන්ද්‍රනම්වූ

ප්‍රිය පුත්‍රයාද සඞඝමිත්‍රානම් දියණියන්ද පූජාසහිතකොට පැවි
දි කරවූයේය. එකල ඒ මිහිඳුනම්වූ රජකුමරතෙමේ විසිවයස්
206 ඇතිවූයේය, සම්මිත්තනම්වූ රජදූතොමෝ අටළොස් හැවි
රිදි වයස්ඇතිවිය, ඒ කුමාරයාහට ප්‍රව්‍රජ්‍යාවද උපසම්පදාවද
207 එදවසම වූයේය, ඒ රජදුවටද ප්‍රව්‍රජ්‍යාව හා ශික්ෂාදානය
එදවස්හි විය, මොග්ගලිපුත්තතිස්ස නම් ස්ථවිරතෙම මිහිඳු
208 කුමරහට උපාධ්‍යාය වූයේය, මහාදෙවනම් ස්ථවිරතෙම
පැවිදිකරවූයේය, මජ්ඣන්තික නම්වූ ස්ථවිරතෙම වනාහි
209 කර්මවාක්‍ය කථනයකෙළේය. ඒ සැනියවූ උපසම්පදා මණ්ඩ
ලයෙහි ඒ මහින්ද යතිතෙම සිවුපිළිසිඹියා සහිතවූ අර්හත්
ඵලයට පැමිනියේය, ධර්මපාලායයි ප්‍රසිද්ධවූ මෙහෙණි තො
210 මෝ සඞඝමිත්‍රානම් කුමාරිකාවට උපාධ්‍යායවිය, ආයුපාලි
නම් මෙහෙණිතොමෝ ආචාර්‍ය්‍යාවිය; ඕතොමෝ සුදුසු කාල
යෙහි රහත්විය. ශාසනයට පහන්වූ ලඞකාවීපයට උප
211 කාරීවූ ඒ දෙදෙන ධර්මාශොක නම් මහරජහුගේ
සවෙනි වර්ෂයෙහි පැවිදිවූහ. ලඞකාවීප ප්‍රසාදකවූ මහා
212 මහෙන්ද්‍ර යතිතෙම උපාධ්‍යායන්ගේ සමීපයෙහි තුන්හවු
රුද්දකින් පිටකත්‍රය උගත්තේය, චන්ද්‍රරෙඛාවක් වැනිවූ ඒ
213 මෙහෙණිතොමෝද සූර්‍ය්‍ය සමානවූ මහෙන්ද්‍ර භික්ෂූතෙමේද
යන ඒ දෙදෙන ඒකාලයෙහි නිරන්තරයෙන් සර්වඥ ශාස
214 නනැමැති ආකාශය ශොභමාන කළහ.

පූර්වයෙහි පැළලුප්නුවරින් නික්ම වනයෙහි හැසිරෙ
න්නාවූ වනචර පුරුෂයෙක්තෙම කුන්ත කින්නරියක් සමග
සංවාසය කළේය. ඕතොමෝ උහුහා සංවාසයට පැමින
215 පුතුන් දෙදෙනෙක් ඉපිදවීය. දෙටුතෙමේ තිස්ස නම්
ඇතිවිය, කණිටුතෙමේ සුමිත්ත නම්විය. සුදුසු කාලයෙහි
මහාවරුණ නම් ස්ථවිරයන්ගේ සමීපයෙහි පැවිදිව, දෙ
216 දෙනම ෂඩභිඥ ගුණඇත්තාවූ අර්හද්භාවයට පැමිනියහ.
වැඩිමහල් තිස්ස ස්ථවිරතෙම පාදයෙහි ගොණුසු විෂය
217 කින් ස්පර්ශ කරණලද්දේ වේදනා සහිතවූයේය. කණිටුවූ
සුමිත්‍ර ස්ථවිරයන් විසින් විචාරණලදවූ ස්ථවිරතෙම ගිතෙල්
218 පතක් බෙහෙත (ලැබිය යුතුයයි) කීයේය. ඒ ස්ථවිරතෙම
ගිලන්වතින් නමුත් රජහට දැන්වීමද, පස්වරු වේලෙහි
219 ගිතෙල් පිණිස හැසිරීමද ප්‍රතික්ෂෙප කළසේක. "ඉදින්
තෙපි පිඩු පිණිස හැසිරෙම්න් ගිතෙල් ලබන්නාහුනම්
ඒ ගෙණෙව"යි තිස්ස නම් ස්ථවිරතෙම සුමිත්ත නම් උතුම්
ස්ථවිරයන්වහන්සේට කීසේක. පිඩු පිණිස හැසිරෙන්නාවූ
220 උන්වහන්සේ විසින් ගිතෙල් පතක් නොලද්දේය, හට

ගත් රොගයතෙම ගිතෙල්කලසියයකින් හෝ සාධ්‍යනො
කටහැකිවිය. ස්ථවිරතෙම එම රොගයෙන්ම ආයුෂයාගේ
221 අන්තයට පැමිනියේ අප්‍රමාදවවාදයෙන් (භික්‍ෂුසඞ්ඝයාට)
අවවාදකොට පිරිනිවන් පානට සිතූසේක. ඒ ස්ථවිරතෙම
222 ආකාශයෙහි හිඳ, තේජෝධාතු වසයෙන් රුචිවූ පරිද්දෙන්
ශරීරය අධිෂ්ඨානකොට තබා පිරිනිව්යේය. ශරීරයෙන්
223 අගනිජ්වාලාවෝ නික්ම මාංස භස්මරහිතකොට ස්ථවිර
යන්ගේ සකල දෙහය දැවූහ, මහිපතිතෙම මේ තිෂ්‍ය
224 නම් ස්ථවිරයන්ගේ පරිනිර්වාණය අසා ජනසමූහයා විසින්
පිරිවරණලද්දේ ස්වකීයවූ අශොකාරාමයට ගියේය. ඇත්
කඳ මත්තට පැමිනි රජතෙම ඒ ආස්ථිධාතූන් අහසින් පහ
225 කොට බැස්විය. ධාතුසත්කාරකොට "ඒ (මරණ හෙතුවූ)
රොගය කිමෙක්දැ"යි සඞ්ඝයා විචාළේය. ඒ අසා හටගත්
226 සංවෙගඇත්තේ නුවර (සතර) දොර සුණුවමින් කරණලද
පොකුණු බෙහෙදින් පූරවා "භික්‍ෂුසඞ්ඝයාට බෙහෙත් දුර්ල
භනොවේව"යි දවසක් දවසක් පාංසා භික්‍ෂුසඞ්ඝයාට බෙ
227 හෙත් පැමිනවූයේය. සුමිත්‍රනම් ස්ථවිරතෙම සක්මන් මළු
වෙහි සක්මන්කරන්නේම පිරිනිවිසේක, ඒ කරණකොට
228 ගෙණද මහජනතෙම සස්නෙහි බෙහෙවින් පැහැදිවූයේය,
ඒ ලොකහිතකාරිවූ කුන්තපුත්‍ර ස්ථවිර දෙදෙනාවහන්සේ
229 ධර්මාශොක රජහුගේ (රාජ්‍යයෙහි) අටවෙනි වර්ෂයෙහි පිරි
නිවන් පැවාහූය, පසුව ප්‍රසන්නවූ ජනයෝද යම් හෙයකින්
230 ලාභ පැවැත්වූද, එහෙයින් එතැන්පටන් සඞ්ඝයාට ලාභ
ඉතා මහත්විය.

ලාභසත්කාර හීනවූ තීර්ථකයෝ ලාභහෙතුවෙන් තමන්
231 ම සිවුරු දරාගෙණ භික්‍ෂූන් සමග විසූහ, ඔව්හූ යම්සේ ස්ව
කීය වාදයද බුද්ධවාදයයි ප්‍රකාශකළාහූද, යම්සේ ස්වකීයවූ
ශාසනයෙන් බාහිරවූ අගනිහෝමාදි ක්‍රියාවන් රුචිවූ පරිද්
232 දෙන් කලාහූද එසේ හෙයින් ස්ථිරවූ ගුණ ප්‍රකාශඇත්තාවූ
මොග්ගලිපුත්ත නම්වූ ඒ ස්ථවිරතෙම ඒ උපන් ඉතා කර්ක
233 ශවූ ශාසනාර්බුදය දැක, දීර්ඝදර්ශිවූයේ ඒ ශාසනාර්බුදයාගේ
234 ව්‍යපසමනයෙහි කාලය බලාවදුරා, ස්වකීයවූ මහා භික්‍ෂු
සඞ්ඝයා මහෙන්ද්‍රස්ථවිරයන්වහන්සේට පාවාදී, ගඟානම්
235 නදියෙහි ඌර්ධ්වභාගයෙහිවූ අහෝගඟනම් පර්වතයෙහි
විවෙක කැමැතිවෙමින් සත්හවුරුද්දක් විසූයේය, තීර්ථක
236 යන් බහුලබැවින්ද දුර්වචබැවින්ද ඔවුන් දැකැමින් වලක්
වන්නට භික්‍ෂූහු නොහැකිවූහ. එහෙසින්ම දඹදිව සියලු
237 ආරාමයන්හි භික්‍ෂූහු සත්හවුරුද්දක් පොහෝ පවුරුණු

238 නොකළහ. මහා යසස්ඇති ධර්මාශොක මහරජතෙම ඒ
අසා "තෝ ගොස් මේ අධිකරණය සංසිඳුවා මාගේ ආරාම
යෙහි භික්ෂුසඞ්ඝයාලවා පොහොය කරවව" යි කියා එක්
239 ඇමැතියෙකු උතුම් අසොකාරාමයට යැවූයේය. ඒ නුවන
මඳ ඇමැතිතෙම ගොස් භික්ෂුසඞ්ඝයා රැස්කරවා "පොහෝ
240 කරව්" යයි රජහුගේ හස්න ඇස්විය. අපි "තීර්ථකයන්හා
සමග පොහෝ නොකරම්හ" යි භික්ෂු සඞ්ඝතෙම ඒ මූඪ
241 චිත්තාත්තවූ ඇමැතියාහට කීහ. ඒ අමාත්‍යතෙම පො
හොය කරවම්හයි පිළිවෙළින් තෙර කීපදෙනෙකුන්ගේ
242 හිස්කපා හෙළූයේය, රජහුගේ සොහොයුරුවූ තිස්සනම්
ස්ථවිරතෙම ඒ ක්‍රියාව දැක වහා අවුත් ඔහට ආසන්නවූ
අස්නෙක හුන්නේය. ඒ ඇමැතිතෙම තෙරුන් දැක ගොස්
රජහට දැන්වූයේය.

243 ඒ සියලු පවත් අසා හටගත් දාහඇති රජතෙමේ හයින්
244 චකිත සිත්ඇත්තේ වහා ගොස් "මෙසේ කරණලද කර්මය
245 කරණකොටගෙණ කවරෙකුට පාපය වේද" යි භික්ෂුසඞ්ඝ
යා පිළිවිසියේය. ඒ භික්ෂූන් අතුරෙන් කිසිකෙනෙක් "පාපය
තොපටය" සිද කිසිකෙනෙක් වනාහි "තොප දෙදෙනාට
246 මය" යි ද කීහු. පණ්ඩිතයෝවනාහි "පාපය තොපට නැ
තැ" යි කීහු. මහරජතෙම ඒ අසා "මාගේ විමතිය පහ
කොට ශාසනය යථාස්ථානයෙහි තබන්නට පොහොසත්
247 ශ්‍රමණකෙනෙක් ඇත්තේද" යි කීයේය. "මහරජනෙනි
ඒ මොග්ගලිපුත්තතිස්ස තෙරුන්වහන්සේ ඇත්තේය" යි
248 සඞ්ඝතෙම රජහට වදාළේය. රජතෙම උන්වහන්සේ කෙ
249 රෙහි ආදරසහිතවූයේය. වෙන්වසයෙන් භික්ෂූන් දහස දහ
සින් පිරිවරණලදුවූ ස්ථවිර සතරනමක්ද, එසේම මිනිස්
යන් දහස දහසින් පිරිවරණ ලදුවූ අමාත්‍යයන් සතරදෙ
250 නෙක්ද ඒ රජතෙම එදවසම තමන් වචනයෙන් තෙරුන්
වහන්සේ කැඳවන්නට යැවූයේය. ඔවුන් විසින් එසේ කිය
නලදුවූ ඒ ස්ථවිරතෙම නොවැඩිසේක. ඒ අසා නැවත
251 පෙරපරිද්දෙන් ස්ථවිර අටනමක්ද වෙන්වසයෙන් දහස්
පුරුෂයන් පිරිවරකොට ඇත්තාවූ අමාත්‍යයන් අටදෙනෙ
ක්ද යැවූයේය, ඒ ස්ථවිරතෙම නොවැඩිසේක, "කෙසේ
252 ස්ථවිරයන්වහන්සේ වඩනේද්‍යෙහෝ" යි රජතෙම කීයේය.
භික්ෂූහු "මහරජ 'ස්වාමීන්වහන්ස ශාසනය උසුලාගන්නාට
253 උපස්තම්භ වෙව' යි කියනලද්දේනම් ඒ ස්ථවිරතෙම වඩ
නේය" යි ඒ ස්ථවිරයන්වහන්සේගේ ආගමන කාරණය
කීහු. රජතෙම නැවතද වෙන්වසයෙන් දහස දහස පිරි

254 වරතොට ඇත්තාවූ ස්ථවිරයන් සොළොස් නමක්හා අමා
255 ත්‍යයන් සොළසක්ද ඒසේ කියා යැවූහ. මඟුලුබැව්හි සිටියා
වූද තෙරුන්වහන්සේ යානාවකට නොනගින්නේයයි
(අසා) "තෙරුන්වහන්සේ නැවකින් ගඟෙහි ගෙණඑව්
ය"යිද කීයේය. ඔව්හු ගොස් (තෙරුන්වහන්සේට) එසේ
කීහ, උන්වහන්සේ ඒ ඇසූ කෙණෙහිම නැගිටවදාළේය.

256 නැවකින් තෙරුන්වහන්සේ ගෙණවාහුය, රජතෙම එහි
257 පෙරගමන් කෙළේය, රජතෙම දනක් පමණ දියට බැස
ගෞරව ඇත්තේ නැවින් බස්නා තෙරුන්වහන්සේට දකු
ණුඅත දුන්නේය, රජහට අනුකම්පාකාරීවූ දක්ෂිණහීවූ ඒ
258 ස්ථවිරතෙම රජහට අනුකම්පාවෙන් ඒ දකුණුඅත අල්වා
ගෙණ නැවින් බිටුයේය. පෘථිවීශ්වරවූ රජතෙම ආළය
වඩනනාවූ උයනට තෙරුන්වහන්සේ පමුනුවා තෙරුන්
259 වහන්සේගේ පාදයන් ධොවනයකොට තෙල්ගල්වා හිඳ
260 ගෙණ ස්ථවිරයන්වහන්සේගේ සමර්ථතාවය විමසන්නේ
"වහන්ස මම පෙළහරක් දකිනු කැමැත්තෙමි"යි කීයේය.
261 "කිමෙක්දැ"යි වදාළකල්හි "පෘථිවිකම්පාවක් (දකිනු කැමැත්
තෙමි)"යි කීයේය. "සර්වපෘථිවිහුගේ කම්පාවෙක්ද ප්‍රදෙශ
පෘථිවියක්හුගේ කම්පාවෙක් දකිනු කැමැත්තෙහිදැ"යි නැ
262 වතත් තෙරුන්වහන්සේ වදාළේය "එයින් කවරෙක් දුෂ්ක
රදැ"යි විචාරා එකදෙශ පෘථිවිහුගේ කම්පාව දුෂ්කරයයි අසා
එය දකිනු කැමැතිබව සැලකෙළේය. ස්ථවිරතෙම යොදු
263 නක් ඉම අතර සතරදිග රථයක, අශ්වයෙක, මනුෂ්‍යයෙ
ක, දියපිරූ තලියෙක, යන මොවුන් තබ්බවා, ඔවුන්ගේ
264 (ඉම ඇතුළට පත්) අවයවයන් සමග ඒ යොදුනක් පමණ
පොළොව සෘද්ධියෙන් කම්පාකෙළේය, එහි උන් රජහටද
දක්වූයේය. ඒ ඇමැතියා විසින් භික්ෂූන් මැරීමෙන් තම
265 හටද පාපය ඇති නැති බැව් මහරජතෙම ස්ථවිරයන් විචා
ළේය. කිලුටුසිතින් වෙණ්ව ඒනිසාවන කර්මයෙක් නැතැයි
266 තිත්තිරජාතකය වදාරා ස්ථවිරතෙම රජහට අවබොධ කර
විය. එහි සිත්කලුවූ රජ උයනෙහි සත්දවසක් වසන්නේ
267 යහපත්වූ සර්වඥගම රජහට ඉගැන්වූයේය. රජතෙම එම
268 සත්දවසෙහි යක්ෂයින් දෙදෙනෙකු යවා පොළෝ තෙලෙහි
සියලු භික්ෂූන් එක්තන්හි රැස්කරවූයේය. සත්වන දවස්හි
සිත්කලුවූ සිය අරමට පැමිණ නිරවශෙෂ වශයෙන් භික්ෂු
සඞ්ඝයා රැස්කරවූයේය.

269 ස්ථවිරයන්වහන්සේ සමග තිරයතුළ එක් තැනෙක හුන්
270 නාවූ මහීපතිතෙම, එක එක ලබ්ධිඇත්තාවූ භික්ෂූන් සම්

පයට් කැඳවාගෙණ, "වහන්ස සර්වඥයන්වහන්සේ කිනම්
271 වාද ඇත්තේද" යි විචාළේය, ඔව්හු ස්වකීයවූ පරිද්දෙන්
ශාශ්වතාදි දෘෂ්ටි ප්‍රකාශකළෝය. ඒ සියලු මිථ්‍යාදෘෂ්ටිකයන්
රජතෙම සිවුරු හැරවූයේය.

272 සිවුරු හරවනලද සියල්ලෝ සැටදහසක් වූහ. "සුගත
තෙම කිනම් වාදඇත්තේද" යි ධාර්මික භික්ෂූන් විචාළේය.
273 විභජ්ජවාදිභාවය උන්වහන්සේලා කීහු, මහීපතිතෙම "ව
හන්ස සර්වඥතෙම විභජ්ජවාදීද" යි ස්ථවිරයන් විචාළේය
274 ඒ ස්ථවිරතෙම "එසේය" යි වදාළේය. එකල ඒ අසා සතුටු
සිත් ඇත්තාවූ රජතෙම, "යම් හෙයකින් සඞ්ඝතෙම ශො
ධිතද එහෙයින් වහන්ස සඞ්ඝතෙම පොහෝ කෙරේව" යි
275 මෙසේ තෙරුන්වහන්සේට කීයේය, සඞ්ඝයාට ආරක්ෂා දී
මහීපතිතෙම යහපත්වූ නුවරට ප්‍රවිෂ්ටවූයේය.

276 එකල සඞ්ඝතෙම සමගි පොහොය කෙළේය, ස්ථවිරයන්
වහන්සේ නොයෙක් සඞ්ඛ්‍යාඇති භික්ෂුසඞ්ඝයා අතුරෙන්
277 විශාරදවූ ෂඩ්අභිඥ ඇත්තාවූ ත්‍රිපිටකධාරීවූ ප්‍රභෙද ප්‍රාප්ත
ප්‍රතිසම්භිදා ඇති භික්ෂූන් දහසක් ධර්මසඞ්ගායනා කරණු
278 පිණිස තෝරාගත්තේය. උන්වහන්සේලා සමග අසෝකා
රාමයෙහි ධර්මසඞ්ගීතිය කළේය. මහාකාශ්‍යප ස්ථවිරයන්
279 වහන්සේද යශඃස්ථවිරයන් වහන්සේද යන ඒ ස්ථවිරයෝ
තුමූ යම්සේ ධර්මසඞ්ගායනා කරවූද, මොග්ගලිපුත්ත තිස්ස
ස්ථවිරතෙමේ ඒ ධර්මසඞ්ගායනාව එසේම කරවූයේය. පර
280 වාද මර්දනයකරනනාවූ කථාවත්ථු ප්‍රකරණය, ඒ සඞ්ගීති
මණ්ඩලයෙහි තිස්ස ස්ථවිරයන්වහන්සේම වදාළේය. මෙ
සේ ධර්මාශොක මහරජහුගේ ආරක්ෂාව කරණකොට ගෙ
281 ණ භික්ෂූන් දහසක් විසින් මේ ධර්මසඞ්ගීතිතොමෝ නව
මසකින් නිමවනලද්දිය. රජහුගේ (රාජාභිෂෙකයෙන්)
282 සතළොස්වන වර්ෂයෙහි දෙසැත්තෑ වස් ඇත්තාවූ ඒ ඍෂි
තෙම මහාපවාරණයෙහිදී සඞ්ගායනාව සමාප්ත කරවූ
යේය, ශාසනස්ථිති හෙතුවෙන් සාධුකාර දෙන්නියකමෙන්
සඞ්ගීති අවසානයෙහි මහපොළෝතොමෝ කම්පිතවිය.

283 ඒ මොග්ගලිපුත්තතිස්ස නම්වූ ස්ථවිරයන්වහන්සේ ම
නොඥ ශ්‍රෙෂ්ඨවූ බ්‍රහ්මවිමානයද හැර ශාසනය හෙතු
කොට පිළිකුල්වූ මිනිස්ලොවට අවුත් කරණලද කටයුතු
ඇත්තේ ශාසනකෘත්‍යය කෙළේය. අන්‍යවූ කවරෙක් ශාස
නකෘත්‍යයෙහි ප්‍රමාදෙපෙත වේද?

මෙතෙකින් හුදිජනයා ප්‍රශාද සංවෙග පිණිස කළ මහ
වංස තතියධම්මසඞ්ගීතිනම්වූ පස්වෙනි අදියර නිමියේය.

# 6 වෙනි පරිච්ඡේදය.

1 අතීත කාලයෙහි වඟුරට වඟුනුවර වඟුරජෙක් විය, කාලි
2 ඟුරජු දුවක් ඒ රජහට මෙහෙසී වූවා. ඒ රජතෙමේ එම
දේවියගෙන් එක් දුවක් ලැබී. නෛමිත්තිකයෝ සිංහරාජ
3 යෙකුහා ඇයගේ සංවාසය කිවූය. ඉතා රූවත්වූ අතිශයින්
කාමයෙන් ගිජුවූ (ඕතොමෝ) රජය දේවිය යන දෙදෙනා
විසින් ලජ්ජාවෙන් පිළිකුල් කරණලද්දීය.

4 ඕතොමෝ ස්වච්ඡන්ද වෘත්ති සුවකැමැත්තී හුදකලාව අප්‍ර
සිඬ වේසයෙන් පිටත්ව මගධරට බලා යන වෙළඳසමූහ
5 යක් කැටිව ගියාය. ලාටරට අටවියෙහිදී සිංහයෙක්තෙමේ
වෙළඳසමූහයා වෙත දිවආය. (ඉස් ලූ ලූ අත දුවනානාහු)
සෙස්සෝ අනික් දිගකට දිවූහ. ඒ කුමාරිකා සිංහයා ආදිගට
6 දිව්වාය. සිංහතෙමේ ගොදුරු ගෙණ (පෙරලා) යන්නේ
දුරදීම ඇය දැක සිත්ඇලඳ්වූයේ කන්හෙලාගෙණ නගුට සල
7 මින් සමීපව ආය. ඕතොමෝ උහු දැක අසනලද නෛමි
ත්තික වචනය සිහිකොට බිය නුවූවා ආසා වඩවමින් ඒ සිංහ
8 යාගේ අවයවයන් පරාමර්ශනය කළා හෝ අතගෑය. සිංහ
තෙමේ ඇයගේ පහසින් ඉතා ඇළුනේ පිට නගාගෙණ
වහා සියගුහාවට ගෙණගොස් ඇයහා සහවාසයෙහි හැසුරු
9 ණේය. ඒ රජදූ තොමෝ උහුහා සංවාසය කරණකොට
ගෙණ සුදුසු කාලයෙහි පුතෙක දුවකැයි කියා නිඹුල් දරු
10 දෙදෙනෙක් වැදුවා. පුත්‍රයාගේ හස්තපාදයෝ සිංහාකාරවූ
ය, ඒහෙයින් ඔහු සිංහබාහුයයි නම්කළාය, දුව සිංහසීවලී
11 යයි නම්කළාය. සොළොස්විය පැමිනි ඒ පිත්තෙමේ "මෑනි
යෙනි නුඹහා අප පියාත් කවර හෙයින් අසම්මානයෙ'දැ" සි
12 සිත සැකය මෑනියන් විචාළේය. ඒ මවුතොමෝ ඔහුට
සියල්ල කීවා. ඒ තෙමේ "තුමස් හෙයින් මිනිස් පියසට
නොයමෝදැ" සි කීය. ඕතොමෝ "තාගේ පියා ගලෙකින්
13 ගුහාව වසයි (එහෙයින් යානොහෙම්හයි)" කීවාය. ඒ කුමර
මහ ගුහාදොර වසන ගල කර නගාගෙණ එක් දවසින්ම
14 පණස් යොත්නක් යාම් ඊම් කෙළේය. සිංහයා ගොදුරු
පිණිස ගියකල දකුණුකර මෑනියන්ද වම්කර නැගණී
15 යන්ද තබාගෙණ වහා ඒ ගුහායෙන් පළාගියේය. ඔව්හු
කොල හැඳගෙණ පසල් ගමකට අවූය. එකල ඒ පසල්
16 ගම රජදුව මයිල්හු පිත්, වඟුරජු සෙනෙවියා සිටියේ විය.
ඒතෙමේ කර්මාන්ත විධාන කෙරෙමින් නුගරුකක් මූල

17 හුන්නේය. උන් දැක "තෙපි කවුරුදැ" යි විචාළේය. ඔව්හු
"අප් වෙනෙහි වසනානමෝය" යි කිවුය. ඒ සෙනෙවි තෙ
මේ ඔවුන්ට වස්ත්‍රදෙවීය.
18 ඒ වස්ත්‍රයෝ මහගුවූහ. පණීයන්හි බත්දෙවීය, ඔවුන්
19 පිණින් ඒ පණීයෝ රන්බඳුන් වූහ. එසින් විජ්ජිත සෙනෙ
විතෙමේ "තෙපි කවුරුදැ" යි (නැවතද) විචාළේය ඒ රජදූ
20 තොමෝ (තමා) ජාති ගොත්‍රයන් ඔහුට දැන්වීය ඒ සෙනෙ
විතෙමේ ඇවැස්ස නැන්දනියන් දියනිවූ ඇය ගෙණ වගු
නුවර ගොස් ඇය සමග වාසය කෙළේය.
21 සිංහතෙමේ වහා ගුහාවට ගොස් ඒ තුන්දෙනා නොදැක
පුත්‍රශෝකයෙන් පෙළුනේ නොම කෑයේය නොම බීයේය.
22 ඒ දරුවන් සොයමින් ප්‍රත්‍යන්ත ග්‍රාමයන්ට ගියේය. ඒ
සිංහතෙමේ යම් යම් ගමකට වදනේනම් ඒ ඒ ගම සිස්
23 වෙයි. පසල් දනව් වැසෝ ගොස් රජහට "දේවයෙනි
සිංහයෙක් තෙමේ ඔබගේ රට පෙළයි ඔහු වැළැක්වුව මැ
24 නව" යි එපවත් රජහට දැන්වූහ. ඒතෙමේ සිංහයා නස
නෙනකු නොලබමින් දහසින් බැඳි පියල්ලක් ඇත්කඳතබා
"සිංහයා දෙන තැනැත්තේ ගණිව" යි නුවර (බෙර) හැසිර
25 වී. නරේශ්වරතෙමේ දෙදහසෙක තුන්දහසෙකැයි එසේම
(බෙර) පියව් කරවී. මවුතොමෝ දෙවරෙක ඒ සිංහබා
26 කුමර වැලකුවා. තුන්වන වර ඒ සිංහබා කුමර මවු නොවි
චාරම සියපියහු මරන්ට ඒ (රන්) තුන්දහස ගත්තේය. රජ
27 හට කුමරු දක්වූය. රජතෙමේ ඔහුට "ඉදින් තාවිසින් සිංහ
28 තෙමේ ගන්නාලැබේ නම් එම රට තට දෙමැ" යි මෙසේ කී
29 යේසි. කුමරතෙමේ ඒ ලෙනදොරට ගොස් පුත්‍ර ප්‍රේමයෙන්
එන ඒ සිංහයා දුරදී දැක විදිනට හීයක් යැවීය. හීයතෙම
30 නලළවැද උහු මෙත් සිතින් පෙරලා අවුත් කුමරහු පාමුල්
හි බිමහිනි. තුන්යලදක්වා ඒසේම විය. පසුව මෘගරාජතෙ
31 ම කිපියේය. ඉක්බිති යවනලද හීයතෙමේ උහු සිරුර විනි
විද නික්මිනි. කුමරතෙමේ කේසර සහිත සිංහ ශීර්ෂය ගෙණ
32 පුරයට ගියේය. එකල වගුරජු මළ සත්දවසක් විය. රජ
තමා අපුත්‍රක බැවිනුත් මොහුගේ කර්මයෙන් ප්‍රසිද්ධ බැවි
33 නුත් රජහු මුනුබුරුබැව් අසාත් මවුකුමරියද හැඳිනත්
සියලු ඇමැතියෝ රැස්ව එක්සිත්ව සිංහබා කුමරහට "රජ
34 වව" යි කීවෝය. හේතෙමේ රජය පිළිගෙණ මෑනියන්
වලලහසාට එය පාවාදී සිංහසීවලිය ගෙණ තෙමේ ජාත
35 භූමියට ගියේ එහි නුවරක් ඉදිකෙළේය, ඒ සිංහපුර නම්වී.
සියක් යොදුන් වෙනෙහි ගම්ද පිහිටවී. ලාටරට ඒ නුවර

36 සිංහබා රජතෙමේ සිංහසීවලිය මහේසිකාකොටගෙණ
37 රජය කෙළේසි. ඒ මෙහෙසී තොමෝ සොළොස් වරෙක
පුතුන් දෙදෙනෙක් දෙදෙනෙක් බැගින් සුදුසු කාලයෙහි
38 වැදූවා, දෙටුපිත් තෙමේ විජයනම දෙවැනානා සුමිත්‍රනම
රජතෙමේ විජයකුමර සුදුසුකල උපරජයෙහි අභිෂෙක
කෙළේසි.

39 විජයතෙමේ විසම ආචාර ඇතිවිය. ඔහු පිරිස්ද එසේවූය
ඔව්හු ඉවසිය නොහෙන නොයෙක් බලාත්කාරකම් කා
40 ළෝය. කිපි මහජනතෙමේ රජහට එපවත් දැන්විය. රජ
තෙමේ ඔවුන් කටයුතු ගගවා පුතුට මනාකොට අවවාද
41 කෙළේය. දෙවෙනි වරද සියල්ල එසේ විය. තුන්වන වර
42 වනාහි කිපි මහජනතෙමේ "ඔබ පුතු මැරුව මැනවැ" යි
රජහට කීය. ඉක්බිති රජතෙම ඒ විජයකුමරද ඔහුගේ ඒ
43 පිරිසද (යන) සත්සියයක් මිනිසුන් අඩක් (ඉස්) මුඩු කරවා
නැවක දම්මවා සමුදුර යැවීය, එසේම ඔවුන්ගේ භාර්‍ය්‍යා
44 වන්ද එසේම කුමරුන්ද (මුහුදයැවීය) වෙන වෙනම දමන
ලද්දාවූ ඒ පුරුෂ ස්ත්‍රී කුමරුවෝ වෙන් වෙන් දිවයින්හි බැස්
45 සෝය. (එසේම) වාසයකළෝය. කුමරුවන් පිහිටි දිවයින
46 නාගද්වීපයයි ප්‍රසිද්ධවිය. භාර්‍ය්‍යාවන් පිහිටි දිවයින මහිළා
ද්වීපයයි වී. විජයතෙමේ සුප්පාරක නම් පටුන බැසගත්
තේය, මෙහි පිරිසගේ බලාත්කාර ක්‍රියායෙන් භයවූයේ
නැවතත් නැව් නැංගේය.

47 ස්ථිරබුද්ධිඇති විජය නම් කුමර ලඞ්කායෙහි හෝ තාම්‍ර
පර්ණී ද්වීපයෙහි යමකශාලාන්තරයෙහි හෙවත් සල්රුක්
දෙදෙනා අතුරෙහි තථාගතයන් පිරිනිවන් පිණිස සැත
පුනු දවස බටුයේය.

මෙතෙකින් ශුද්ධජනයා පහන් සංවේග පිණිසකළ මහවස
විජයාගමනනම් සවෙනි අදියරනිමි.

---

# 7 වෙනි පරිච්ඡේදය.

1 සියලු ලෝවැසියාට වැඩකොට පරම ශාන්තිකාලයට පැමි
න පිරිනිවන් මඤ්චකයෙහි හොත්තාවූ ලෝහිමිවූ වාදීන් අතු
2 රෙන් ශ්‍රෙෂ්ඨවූ මහාමුනි තෙමේ මහත්වූ දෙවසමාගමයෙ
3 හිදී එහි සමීපව සිටි ශක්‍රයාහට වදාරණසේක් "සිංහබා රජු
පිත් තෙල විජයකුමර අනුගත සත්සියයක් පිරිවර ඇතිව

4 ලාටරටින් (අවුත්) ලක්දිව් බැස්සේය. දෙවෙන්ද්‍රය මාගේ සස්න ලක්දිව්හි පිහිටන්නේය එහෙයින් පිරිවරසහිත උහුද ලඞ්කාවද මොනවට රකුව" යි වදාළසේක.

5 දෙවෙන්ද්‍රතෙමේ තථාගතයන් බස ගෞරවයෙන් ඇසූයේම උප්පල්වන් දෙව්රජහට ලඞ්කාරක්‍ෂාව භාරකෙළේයි.
6 ඒ තෙමේ ශක්‍රයා විසින් කීපමනින් එකෙණෙහි ලක්දිව්
7 අවුත් පරිබ්‍රාජක වෙශයෙන් රුක්මුලෙක හුන්නේය. විජය කුමාරයා ප්‍රධානකොට ඇති සියල්ලෝ උහුවෙත අවුත්
8 "පින්වත්නි මේතෙමේ කවර දිවයිනෙක්දැ" යි විචාළෝය. හේතෙමේ ලක්දිවයයි කියා මිනිස්සු මෙහි නැත්තාහුයයිද
9 තොපට භයෙක් නොවන්නේයයිද කීය. මෙසේ කියා කෙඩිකායෙන් ඒ මිනිසුන් (පිරිත්) පැන් ඉස, උන් අත්හි (පිරිත්) හුදු බැඳ අහසින් ගියේය.

10 පිරිවර යකින්නක් බැලිරූවින් තමා දැක්වීය. උන් අතුරෙන් එකෙක් රජපිත්හු විසින් නවතනු ලදුයේත් "ගම්
11 ඇතිකල බල්ලෝ ඇතිවන්නාහ" යි ඇය පසුපස්සෙහි ගියේය. ඇයගේ සවාමිදූවූ කුවේණී නම් යකිනීතොමෝ (කපු) කටනා තවුසියක් සෙයින් එහි රුක්මූලෙක හුන්
12 නාය. ඒතෙමේ පොකුණද හුන් තවුසියද දැක එහි නහා පැන්බී නෙළුම්ලද පොකුරුපතින් දියද ගෙණ ගොඩනැං
13 ගේය. ඕතොමෝ ඔහුට "මාගේ ගොදුරුවූයෙහි සිටුව" යි
14 කීවාය. ඒ මිනිස්තෙමේ බඳනාලද්දෙකුසේ සිටියේය. ඕතොමෝ පිරිත් හුයෙහි තේජසින් (මිනිසා) කනනට අසමත්
15 වී. යකිනිය විසින් ඉල්ලනු ලබනනාවූද මිනිස්තෙමේ ඒ හුය නුදුන්නේය. යකිනිතොමෝ හඬමින් සිටි උහු ගෙණ උමගෙක බැහීය, මෙසේ එකඑකා බැගින් සත්සියයම ඒ උමග බහාලීය.

16 සියල්ලන් නේනකල භයෙකැයි සැකකළාවූ විජයකුමර තෙමේ සැරහුනු පසවි ඇත්තේ ගොස් මනා පොකුණ දැක
17 ගොඩනැගී පියවර සටහන් දිටී. ඒ තවුසියද දුටුයේය, "කිමෙක්ද මැය විසින් මාගේ භටයෝ ගනනාලදුවෝද්දෙ" යි
18 සිතා "කිමෙක්ද පිනැතනිය තී මාගේ භටයන් නුදුටුයෙහිදැ" යි ඇයට කීයේය. ඕතොමෝ "රජකුමාරයානෙනි භටයන්ගෙන් කාරිය කිම පැන් පුවමැනව නැහැව මැනව" යි
19 කීවා. "යකිනිතොම නිශ්චයෙන්ම මාගේ ජාතිය දන්නීය" යි නිසැකවූ ඒතෙමේ සියනාම අස්වා වහාම දුනන සර
20 සාගෙණ වෙත එළඹියේ නාරාචවලයෙන් බෙල්ලෙහි යකිනන ගෙණ වමතින් කෙස්වැටිය ගෙණ දකුණතින්

21 කඩුව අමෝරා "කෙල්ල මාගේ මිනිසුන් දෙව නී මරමි" කී
යේය. ඒ යකිනිතොම බියෙන් බැගෑවූවා "ස්වාමීනි මා
22 දිවි දුනමැනව මම ඔබට රජය දෙන්නෙමි ස්ත්‍රී කෘත්‍යයත්
අනික් කිසිවකුත් කැමැති පරිදෙකින් කරනෙනමැ"යි
23 කියා දිවි ඉල්විය. ඒ කුමර අද්‍රොහ පිණිස යකිනිය සපථ
කරවී. "වහා මිනිසුන් ගෙණෙව"යි කීපමණින්ම ඕතො
24 මෝ ගෙණවා "මොව්හු බඩසා ඇත්තාහ"යි කියනලදුවූ
ඕතොමෝ කනලද වෙළඳුන්ගේ නැව්හිවූ නානාවිධවූ
25 බොහෝවූ සහල් ආදිය දැක්වීය. ඒ මිනිස්සු බත්හා සූපයන්
හුයා රජකුමරහු බත් කවා සියල්ලෝද කෑවෝය.

26 විජයකුමරහු විසින් දෙවනලද අග්‍රභාගය කා පිනාගියාවූ
27 යකිනීතොම සොළොස් හැවිරිදි සිත්ගන්නා රුවක් මවා
ගෙණ සව්බරණින් සැරහුනී රජකුමරු වෙත එළඹියාය.
28 රුක්මුලෙක තිරයෙන් මොනවට හාත්පස අවුරණලදවූ
29 වියනින් මනාව අලඞ්කෘතවූ මාහැඟි යහනක්ද මැවීය. රජ
කුමර ඒ දැක අනාගත අභිවෘද්ධිය බලන්නේ ඈහා සමග
වාසය කොට යහනෙහි සැපසේ හොත්තේය. පිරිවර සියලු
මිනිස්සු තිරය සිසාරා හොත්තෝය.

30 රාත්‍රිභාගයෙහි ඒ කුමර තූර්‍ය්‍යනාද සහිත ගීහඬක් අසා
31 "කවර ශබ්දයෙක්දැ"යි එක්ව නිදන යකිනිය විචාළේය.
32 "සියලු යකුනුදු මරවා රජ්ජයත් ස්වාමියාහට දියයුතුතෝය.
අවශ්‍යයෙන්ම මනුෂ්‍යවාස හෙතුයෙන් යක්‍ෂයෝ මා මරන්
නාහ" මෙසේ සිතා ඒ යකිනීතොම රජකුමරහට (කියන්නී)
33 "ස්වාමීනි මෙහි මේ යක්‍ෂපුරය ශිරීෂවස්තු නම එහි දෙටු
යකු පිණිස ලඞ්කා නගරවාසීවූ කුමරියක් මෙහි ගෙණෙන
34 ලද්දීය ඈයගේ මවුද ආවා, ඒ කැඳවා එන මගුල්හි මෙහිද
මහත් උත්සව පවතී. මේ එහි ශබ්දයයි මේ සමාගමය
35 මහත්මැයි. අදම යකුන් මැරුව මැනව. මින් මත්තෙහි
නොහැක්කැ"යි කීවාය, කුමර "අදෘශ්‍යමාන ඒ යකුන්
36 මම කෙසේ මරම්දැ"යි කීයේය. "යම් තැනෙක ශබ්දකෙ
රෙම්නම් ඒ හඬින් ගැසුව මැනව. ආයුධය තෙමේ මාගේ
37 ආනුභාවයෙන් උන්ගේ කයෙහි හෙන්නේය"යි ඈගේ බස
අසා එසේකොට සියලු යකුන් මැරීය. තෙමේද ලබනලද
38 ජය ඇත්තේ යක්‍ෂරාජයාගේ ආභරණ පැළැන්දේය, සෙසු
ආභරණයෙන් ඒ ඒ භටයන්ද පැලඳවිය. කීපදවසක් මෙහි
39 වැස තාම්‍රපර්ණියට එළඹියේය. විජයකුමරතෙමේ තාම්‍රපර්ණී
නගරය ඉදිකොට ඇමැතියන්විසින් පිරිවරණලදුයේ යකි
නියහා විසීය.

40 එකල්හි නැවින් ගොඩබටුවාවූ විජයකුමර ආදීහු කලා
41 න්තවූවෝ අතින් භූමියෙහි ස්පර්ශකොට හිඳගත්තෝය. යම්
හෙයකින් තඹවන් අත්ල ඇතිවීද එහෙයින් ඒ දෙශයද
42 දිවයිනද ඒ නම් ඇත්තේ හෝ තාම්‍රපර්ණී නම් විය. ඒ
සිංහබාහු නරේන්ද්‍ර සිංහයා ගත්තේය එහෙයින් සිංහල
නම්වී; ඔහුහා සම්බන්ධඇති මේ සියල්ලෝද සිංහලයෝයි.

43 ඔහුගේ ඇමතියෝ ඒ ඒ තැන ගම් පිහිටවූහ. අනුරාධ
නම් ඇමැතිතෙමේ කොළොම්හෝ ඉවුරෙහි අනුරාධ නම්
44 ගම පිහිටවීය. පෙරව් උපතිස්තෙමේ අනුරාධ පූරයෙන්
උතුරුදීග ගම්භීරනදී තීරයෙහි උපතිස්ස ග්‍රාමය ඉදිකො
45 ළේය. අනික් ඒ ඇමැතියෝ තුන්දෙනෙක් උජ්ජේනිය උරු
වේලාය එසේම විජිත නගරයයි යන වෙන වෙන ගම් ඉදි
46 කළෝය. ජනපදය පිහිටුවා සියලු ඇමතියෝ රැස්ව ඒ
කුමරහට "ස්වාමීනි රාජ්‍යයෙහි අභිෂෙක කරව"යි කීහ.
47 මෙසේ කියනලද රජකුමරතෙමේ ක්ෂත්‍රිය කන්‍යාමෙහෙසි
යකගේ අභිෂෙකයක් නැතිව අභිෂෙකය නොකමැතිවීය.

48 වැලි ඒ ඇමතියෝ ස්වාමීහුගේ අභිෂෙකයෙහි කරණ
ලද ආදරඇත්තෝ දුකසේ කටහැකි කර්තව්‍යයෙහිද ඒ
49 අර්ථසිද්ධියෙහි බයබව ඉක්මවූවෝ ස්වාමියා කෙරෙහි භක්ති
ඇත්තාහු ස්වාමිවූ විජයකුමරහට පඬුරු දියනියන් පිණි
50 සත් ඇමතිවර්ගයාහට සෙසසන් දූන් පිණිසත් මිණිමුතු
ආදී මහාසාර බොහෝ පඬුරු ගන්වා මධුරාපූරයට දූතයන්
51 යැවූහ. ඒ රාජදූතයෝ වහා නැවින් මදුරාපූර ගොස් පඬු
52 රුද ලියුම්ද ඒ රජහට දැක්වූය. පසුව රජතෙමේ ඇමති
යන්හා මන්ත්‍රණය කොට සිය දියනියන් හා අනික් ඇමති
53 යන්ගේ දූනුන් එවනු කැමැතිවූයේ එකුන් සියයක් කන්‍යා
වන් ලැබ නැවත "ලඞ්කාවට දූන් යවනු කැමැත්තාවූ මේ
54 මධුරා වැසි මිනිස්සු දූන් දෙගුණයක් සරසා ගෘහ වාරයන්හි
හිඳුවත්වා ඒ ලකුණෙන් උන් ඇරගන්නෙමැ"යි බෙරපිය
විකරවී.

55 මෙසේම බොහෝ කන්‍යාවන් ලැබ ඒ කුලයන් සතපා
56 සැපයූ සර්වාලඞ්කාර ඇති පිරිස්සහිත දියනියන්හා සුදුසු
පරිඅඳුන් ලබනලද සත්කාරඇති ඒ සියලු කන්‍යාවන්ද
57 රාජාර්හවූ හස්ත්‍යශ්ව රථප්‍රෙෂ්‍ය කාරකයන්ද අටළොස් ශිල්පී
සමූහයන්ගෙන් කුල දහසක්ද සතුරන් දිනූ විජයරජහට
58 ලියමන්දී එවූයේය. ඒ සියලු මහාජනතෙමේ නැවින්
(අවුත්) මහතොට ගොඩබටුයේය. එහෙයින්ම ඒ පටුන
මහතොටයයි (මාන්තෝට්ටම්) කියනුලැබේ.

59 විජයකුමරහට ද ඒ යකිනියගේ පුතෙක්ද දුවක්ද වූහ.
60 විජයකුමරතෙමේ රාජකන්‍යාව ආබැව් අසා යකිනියට
"සොඳුර දරුවන් දෙදෙනා තබා තී දැන් යා මනුෂ්‍යයෙ
61 සැමකල්ම අමනුෂ්‍යයන්ට බානහ" යි කීය. ඒ අසා යක්‍ෂ
හයින් හයවූ ඒ යකින්නට "තට දහසකින් බලිදානය කර
62 වම් සෝක නොකර" යි කීයේය. හයව්ද ඕතොමෝ
නැවත නැවත ඔහු යාච්ඤාකොට දරුදෙදෙනා ගෙණ යා
63 යුතු අතක් නැතිබැවින් ලඞකාපුරයට ගියාය. පුතුන්
64 බැහැර හිඳුවා තොමෝ නුවරට වන්නාය. ඒ යකින්න හැ
ඳින සෙරයයි (සතුරු පක්‍ෂ) සංඥඇති හයවූ ලඞකාපුර
යෙහි යක්‍ෂයෝ කැලඹුනෝය. එක් රෞද්‍ර යක්‍ෂයෙක් වූකලී
එක් අතුල් පහරිතින්ම යක්‍ෂණිය මැරුයේය.

65 ඇයගේ මයිල් යක්‍ෂතෙමේ නුවරින් බැහැර නික්මුනේ
66 ඒ දරුදෙදෙනා දැක "තෙපි කවුරුන්ගේ දරුවෝල" යි
පිළිවිසියේය. කුවේණියගේයයි අසා "මෙහිදී තොපගේ
මවු මරණලද්දිය තොපත් දැක මරන්නාහ වහා පලායෙත්
67 ව" යි කීයේය. ඔව්හු එයින් වහා පලාගොස් සමන්කුළට
ගියෝය. ඒ දෙටුතෙමේ තරුණවූයේ ඒ නැගණියන් සමග
68 වාසය කෙළේය. ඔව්හු දූ පුතුනගෙන් වැඩී ඒ කඳුරටම
විසූහ. මේතෙමේ වැද්දන්ගේ උත්පත්තියි.

69 පඬිරජහුගේ ඒ දූතයෝ (ගෙණ) පඬුරුද ඒ රජදුන්
70 ආදියද විජයකුමරහට සැම්නවූහ. විජයකුමර තෙමේ දූත
යන්ට සත්කාර සම්මානකොට ඇමති සමූහයාට සුදුසු
71 පරිද්දෙන් කන්‍යාවන් පාවා දුන්නේය. තවද සියලු ඇමති
යෝ රැස්ව විධිවූ පරිද්දෙන් විජයකුමරු රාජ්‍යයෙහි අභි
72 ෂේක කළෝය, මහ සැණකෙළිද කෙළියහ. ඉක්බිති
විජයරජතෙමේ පඬිරජු දියනියන් මහපෙළහරින් මෙහෙසි
73 බැව්හි අභිෂේක කෙළේයි. ඇමතියන්ට වස්තු දුන්නේය
එසේම මයිල් (රජ) හට වනාහි අවුරුදුපතා දෙලක්‍ෂයක්
වටනා සක්මුතු දුන්නේය.

74 ඒ විජය නරශ්‍රෙෂ්ඨතෙමේ පළමු විසම හැසිරීම් හැර
දැහැමෙන් සෙමෙන් මුළු ලක්දිව අනුශාසනා කෙරෙමින්
පුරා අටතිස් හවුරුදුක් තාම්‍රපර්ණීනගරයෙහි රජකම්
කෙළේය.

මෙතෙකින් හුද්ජනයා පහන් සංවෙග පිණිස කළ මහ
වස විජයාභිෂේක නම්වූ සත්වන අදියර නිමි.

---

# 8 වෙනි පරිච්ඡේදය.

1 ඒ විජය මහරජතෙමේ අන්තිම වස්හි සිටියේ "මම වෑඩ
යෙම් මාගේ පුතෙක් නැත්තේය දුකසේ පිහුටුවනලද මේ
2 රට මා ඇවෑමෙන් නස්නේය. එහෙයින් රජයපිණිස මා
මල් සුමිත් කුමරහු ගෙන්වන්නෙමි" සි මෙසේ සිතුයේය.
3 ඉක්බිති ඇමැතියන්හා මන්ත්‍රණයකොට එහි හසුන්පත්
යැවූයේය. විජයතෙමේ හසුන්දී නොබෝ කලකින් දෙව්
ලෝ ගියේය.

4 ඔහු මළකල ඒ ඇමැතියෝ රජකුමරෙක් එනු බලනනාහු
5 උපතිස්ස ගම වෙසෙමින් රට අනුශාසනා කළෝය. විජය
රජු මළකල රජකුමරුවන් ඊමෙන් පළමුකොට එක්අවුරු
6 අදක් මේ ලක්දිව අරාජකවී. ඒ සිංහපුරයෙහි සිංහබා රජහු
7 ඇවෑමෙන් ඔහු පිත් සුමිත් කුමර රජවී. මදුරජු දූ මෙහෙ
සියගෙන් ඒ සුමිත්රජු පුතුන් තුන්දෙනෙක් වූහ. ලක්දිවින්
8 ගිය දූතයෝ සිංහපුරයට ගොස් රජහට පත්හසුන් දුන්
නෝය. ඒ රජ හසුන් අසා පුතුන් තුන්දෙනාට "දරු
9 වෙනි මම මහළුයෙමි තොප අතුරෙන් එකෙක් මා බෑයා
සතු නොයෙක් ගුණඇති සිත්කළුවූ ලඞ්කාවට යේවා. තවද
10 ඔහුගේ ඇවෑමෙන් එහිම රජකරවන්ටත් සොබනේය" සි
කීයේය. තිස්දෙවුන්මල් පඬුවස්දෙව්යයි නම් රජකුමර
11 තෙමේ යන්නෙමැයි සිතා සැපසේ ගමනද දැන පියහු
විසින් අනුදන්නාලද්දේ පරිබ්‍රාජක වෙස්ඇතොත් දෙතිස්
ඇමැති දරුකෙනෙකුදු ගෙණ නැව්නැංගේය. මාකඳුරු
12 හොය හෝ මාඔය මෝයෙහි (කම්මල්තොට) ඔව්හු ගොඩ
බටහ. ජනතෙමේ ඒ පරිබ්‍රාජකයන් දැක මොනවට සත්
කාර කෙළේය.

13 මෙහි නුවර විචාරා ක්‍රමයෙන් යනනාවූ ඔව්හූ දෙවියන්
විසින් රක්නාලද්දෝ උපතිස් ගමට පැමිනියෝය. ඇමැති
14 යන් විසින් අනුමතකරණලදුවූ ඇමැතියෙක්තෙමේ බැහැ
ර නිමිත්තපාඨකයෙකු අතින් ක්ෂත්‍රියයන්ගේ ඊම විචාළේය.
ඒ නිමිත්තපාඨකතෙමේ විචාළාවූ ඇමැතියාට අනිකකුදු
15 (විසඳමින්) "සත්වන දවස්හි කැත්කුමරෙක් එන්නේය
මොහුවස උපන්නෙක්ම බුදුසස්න පිහිටුවන්නේය" සිද
16 කියාත් විසඳූයේය. ඒ ඇමැතියෝ සත්වන දවස්හිම එහි
17 පැමිනි පරිබ්‍රාජකයන් දැක විචාරා දැන, ඒ පඬුවස් රජහු
ලක්රජයෙහි පිහිටවූහ. මෙහෙසියක් නැතිබැවින් ඒ කුමර
18 ඒතාක් අභිෂෙක නොකෙළේයි. අම්තොදන ශාක්‍යරජහට

පාඩුශාක්‍ය නම් පුත්‍රයෙක් විය. ඒතෙමේ ශාක්‍යයන්ගේ
19 පරිහානි දැන සියජනයා හැරගෙණ අප්‍රසිද්ධ වෙශයෙන්
ගඟා නම් ගඟින් එතර ගොස් එහි නුවරක් ඉදිකොට
20 රජය කරන්නේ දරුවන් සත්දෙනෙක් ලද්දේය. භද්‍ර
කච්චාන නම්වූ සියලු සත්ලක්ෂණයෙන් යුක්තාවූ ජනයා
විසින් අභිප්‍රෙතවූ මනා රූඇති තිස්දෙවුන් දුවකුදු වූවා.
21 ඈය පිණිස සත් රජදරුකෙනෙක් මාහැඟි පඬුරු ඒ රජ
හට එවූය. ඒ පාඩුශාක්‍යතෙමේ වනාහි රජුන්ගෙන් භය
22 වූයේ, සුවගමන්ද අභිෂෙක ඵලද දැන දෙතිසක් ගැහැ
ණුන්හා ඈය වහා නැව්නංවා "පොහොසතෙක් මාදුව
23 අල්වා ගණීව" යි කියා ගඟානම් ගඟ බැහුයේය. ඒ රජ
දරුවෝ ගන්ට නොහැකිවූහ. ශීඝ්‍රගාමිනී ඒ නෞකාතො
24 මෝ, දෙවෙනි දවස්හිම ගොණගම් පටුනු පැමිනියාය. පැවි
25 දිවෙස් ගත් ඒ සියලෙලෝ එහි ගොඩබටහ. මෙහි නුවර
විචාරා ක්‍රමයෙන් එලඹෙනාවූ එවූහු දෙවියන් විසින් රක්
26 නාලද්දාහු උපතිස් ගමට වනුය. නිමිත්තශාස්ත්‍ර හදාළහු
බස් අසා එහි පැමිනියවුන් දැක උන් හැඳින ඇමැතිතෙමේ
27 රජහට භාරකෙළේය. මනා නුවනැති ඒ ඇමැතියෝ
පිරුණු සියලු මනොරථ ඇති ඒ ෘ ඬුවස්දෙව් කුමරහු රාජ්‍ය
යෙහි අභිෂෙකකළෝය.
28 පඬුවස් රජ අලාමක රූඇති යාපත් භද්‍රකාත්‍යනා කුම
රිය තමාගේ මෙහෙසිබැව්හි අභිෂෙකකොට ඒ බිසව්
සමග ආවුන් තමාහා ආවුන්ට පාවාදී සුවසේ විසූයේය.

මෙතෙකින් හූදිජනයා පහන්සංවෙග පිණිස කළ මහ
වස පඬුවාසුදෙවාභිසෙක නම්වූ අටවන අදියර නිමි,

---

# 9 වෙනි පරිච්ඡෙදය.

1 ඒ මෙහෙසීතොමෝ පුතුන් දසදෙනෙකුහා එක් දුවකුදු
2 වැදූවා. සියලලන් දෙටුපුත් අභයනම. කණිඨිකාතොම
චිත්‍රානම මන්ත්‍රපාරගත බ්‍රාහ්මණයෝ ඈය දැක "මැය
3 පිතෙක් රජය පිණිස මයිලන් නසන්නේය" යි ව්‍යාකරණ
කළෝය (ඒ අසා) "නැගනියන් මරනෙනමුය" යි නිශ්චය
කොට ගත්තාවූ සහෝදරයන් වැඩිමහල් අභයකුමරතෙම
4 වැලකීය. බොහෝකලක් ඈය එක්ටැම් ගෙයක වැස්වූය,

රජහුගේ ශ්‍රියහත් ගබඩාව සමග ඒ එක්ටැම්ගෙහි දොර කර
5 වූය. තවද එක් දාසියක් මාලිගා ඇතුළෙහි සිටවූහ. මිනි
සුන් බැහැර රැකවල් ලූහ. යම් හෙයකින් ඕතොමෝ දැකුම්
ලත් පමණින්ම රූපයෙන් මිනිසුන් උමතුකරවීද එහෙයින් උප
පද සහිතවූ උන්මාදචිත්‍රායයි නම්ලද්දීය.
6 භද්‍රකාත්‍යායන දේවියගේ ලක්දිව් ගමන් අසා මෑනියන්
7 විසින් මෙහෙයනලද පුත්‍රයෝ එතෙකු තබා මෙහි අවූය.
ආවාවූ ඔව්හු පඬුවස්දෙව්නම් ලක්හිමියාද ඒ නැගනියන්ද
8 දැක සමග හඬා ඒ බිසවුන් විසින් හා රජු විසින් කරණලද
සත්කාර ඇත්තෝ රජු අනුමතියෙන් ලක්දිව්හි චාරිකාක
9 ළෝයි. රිසිසේ නිවාසද කළෝයි රාමකුමරහු විසින් විසූ
තෙන රාමගෝණයයි කියනුලැබේ. උරුවෙලය අනුරාධය
යන දෙදෙනාගේ නිවාසයෝද එසේ එසේ (උරුවෙලය අනු
10 රාධයයි කියනුලැබෙති) එසේම විජිතය දීඝායුය රොහණය
යන මොවුන්ගේ වාසස්ථානද විජිතග්‍රාම දීඝායුග්‍රාම රො
11 හණයයි කියනුලැබෙති. ඒ අනුරාධතෙමේ දකුණුදිගින්
වැවක් කරවිය. ඉන් ඉක්බිති රජගෙයක් කරවා එහි වාස
12 යකෙළේය. පඬුවස්දෙව් මහරජතෙමේ සිය දෙටුපිත් අභ
යකුමරහු සුදුසුකල උපරජයෙහි අභිෂෙකකෙළේයි.
13 දීඝායුකුමරු පිත් දීඝගාමනි කුමරතෙමේ ඒ උන්මාදචිත්‍රා
පවත් අසා ඈය කෙරෙහි හටගත් දර්ශනාභිලාසා ඇතෙත්
14 උපතිස් ගමට ගොස් රජහු දිටී. ඒ රජතෙමේ උපරජුහා
15 රාජෝපස්ථානය මේ කුමරහට දුනෙන්ය. දැල්කවුළ ඉදිරි
තත්හි ඊට එළඹ සිටියාවූ ඒ චිත්‍රාතොමෝ ගාමනි කුමරු
16 දැක ඇලුනු සිත්ඇතත් දාසියට "මේතෙමේ කවරේද" යි
කීවා. පසුව "මයිල්හු පිතා" යි අසා දාසිය එහි නියෝ
17 ග කළාය. ඒ තෙමේ කවුළුයෙහි සන්ධිකොට පසුව වස්
වා රාත්‍රියෙහි කණ්ඩාට යනත්‍ර නැගී දොරසිඳුවා එයින්
18 ඇතුල්විය ඈහා වැස අළුයම්හි බැහැරවී, මෙසේ නිතර
එහි වාසයකෙළේය. සිදුරක් නැතිබැවින් ප්‍රකාශනොවී.
19 ඕතොමෝ උහුනිසා ගැප්ගත්තීය. පසුව ගැබ මුහුකුරා
20 ගියේය. දාසීතොමෝ මවුබිසවට කීවා. මවුබිසව් දියනියන්
විචාරා රජහට කීවාය. රජතෙමේ පුත්‍රයන් කැඳවා "හේ
21 තෙමේද අපවිසින් රැකයුතුතෙත්ය උහුටම ඈය දෙමුය" යි
කීයේය. ඉදින් පුතෙක් වීනම් උහු මරනුනමෝය" යි ඒ දීඝ
ගාමනි කුමරහටම උන්මාදචිත්‍රාව දුන්හුය. වදන කල පැමි
නිකල්හි වැදීම්ගෙටද වන්නීය. රජකුමරුවෝ (ඒ කුමරිය)
22 රක්නා චිත්‍රනම් දාසය කාළවේළනම් දාසය යන ගැමුණු

23 කුමරහු කම්කරුවූ පිළිණ නොදෙනානත් ඒ කර්මයෙහි හෙ
24 තුභූතයෝයයි කියා සැකකොට මැරවූහ. ඔව්හු දෙදෙනා
යක්ෂයොනියෙහි උපනෙනා ගැබහොත්තාවූම කුමරහට
අරක්ගත්තාහුය. ඒ කුමාරිකා වැදීමට ආසන්නකල්ඇත්තී
අනික් ගැහැණියක් දාසියලවා සැලකවී. ඒ චිත්‍රා කුමරී
25 පුතෙක් වැදුවා; වැලි ඒ ගැහැණී දුවක් වැදූවාය. චිත්‍රා
තොමෝ ඒ ගැහැණියට මසු දහසක්හා සියපුතුදී ඒ දුව
26 ගෙන්වාගෙණ ලඟ හොවාගත්තීය. දුවක්ලදැයි අසා රජ
කුමරුවෝ තුටුවූහ——මවුකුමරීද මැතියන් මවුබිසව්ද
27 යන දෙනානා ඒ කුමරහට මුත්තානුවන්ගේ හා දෙටු මසිල්
හුගේ නම් එක්කොට පඬුකාභයයි නම්කළෝය. ලඞ්කා
28 රක්ෂක පඬුවස්දෙව් රජතෙමේ තිස්හවුරුද්දක් රජය කෙ
ළේය. පඬුකාභය කුමරහු උපන්කල ඒ තෙමේ මෙළේයි.

29 ඒ රජහු මළකල සියලු රාජපුත්‍රයෝ එක්වගෙණ අභය
දායකවූ අභයනම් භාතෘ කුමරහට උදාරවූ රාජ්‍යාභිෂෙකය
කළෝය.

මෙතෙකින් හුදීජනයා පහන්සංවෙග පිණිස කළ මහ
වස අභයාභිසෙක නම් නවවැනි අදියර නිමි.

---

# 10 වෙනි පරිච්ඡේදය.

1 උන්මාදචිත්‍රාව විසින් අණවනලදදූවූ දාසිතොමෝ ලදරු
2 කුමරහු කරඬුවෙක බහාගෙණ දොරමඬලා නම් ගමට ගි
යාය. රජකුමරුවෝද මුවදඩගියෝ තුඹුරු කඳුරෙහිදී දාසි
3 ය දැක "කොයියෙහිද මේ කිමෙක්දැ" යි කියාත් විචාළෝය.
(ඕතොමෝ) "දොරමඬලාවට යෙම් මාගේ දුවට ගෙණයන
ගුඩපූය" යි කීවාය. රජකුමරුවෝ "බහා තබව" යි ඈව
4 තිවූය. චිත්‍රය කාළවේලය යන යක්ෂයෝ දෙදෙන කුමරහු
5 අරක් පිණිස නික්මියෝ එකෙණෙහි මහත් හූරුවෙසක්
දක්වූය. ඒ කුමරුවෝ ඌරා ලුහුබැඳ ගියෝය. දාසීතොම
ඒ කුමරහු ගෙණ එහි ගියාය. දරුවාද දහසද නියුක්තයා
6 හට රහසිගතව දුන්නීය. එදවස්හිම ඔහුගේ භාය්‍යාතොම
පුතෙකු වැදුවාය "මා බිරින්ද දරුවන් දෙදෙනෙකු වැදූ
7 වාය" යි උහු පොෂණය කෙළේය. ඒ කුමර සත්හැවිරිදි
වීය. මසිල්හු උහු දැන විලදීය කෙළනා දරුවන් මරන්ට

8 (මිනිසුන්) මෙහෙයූය. දියෙන් වසනලද සිදුරුඇති දියෙ
හිසිටි රුක් සිදුරකට කුමරතෙමේ කිමිදීමින් ඒ සිදුරෙන්
9 ප්‍රවිෂ්ටව බොහෝ වේලක් වැස පසුව එසේම නික්ම සෙසු
දරුවන් වෙත අවුත් උන්විසින් විචාරණ ලදුයේත් ඒ තෙ
මේ වචනයෙන් රැවටූයේය.

10 ඒ කුමරතෙමේ මිනිසුන් ආ දවස්හි රෙදිකඩ හැඳගෙණ
11 දියෙහි ගිලී රුක් සිදුරෙහි සිටියේය. සෙසු දරුවන් මරා
කඩරෙදි ගැණ "සියලු දරුවෝ මරණලද්දූහ" සි ගොස්
12 රජකුමරුවන්ට දැන්වූය. උන්ගියකල ඒ තෙමේ ස්වකීය
13 ආයුක්තකයා ගෙටගොස් වෙසෙමින් ඔහු විසින් අස්වැසූයේ
දොළොස් වස්විය. නැවතද ජීවත්වන කුමරහු අසා උහු
14 ගේ මයිල්හු එහි සියලු ගොපලුන් මරන්ට මිනිසුන් මෙ
හෙයූය. එදවස්හි ගොපලෝ එක් සිවුපාවෙකු ලැබ ඒ
15 කුමරහු ගිනිගෙණෙනු පිණිස ගමට යැවූය. හේතෙමේ
ගෙට ගොස් නියුක්තයාගේ පුත්‍රයාම "මා පාරිදෙනනාහ
16 ගොපලුන් වෙත ගිනිගෙණ යා එහි තෝ අඟුරෙහි පැල
හූ මස්ද කනෙහිය" සි යැවියේසි, ඒතෙමේ එබස් අසා
17 ගොපලුන්වෙත ගිනිගෙණ ගියේය. මෙහෙයනලද
මිනිස්සු ඔවුන් වටලා මැරූය. සියලු ගොපලුන්මරා මයි
ලන්ට දැන්වූය.

18 පසුව සොළොස්වස්වූ ඒ කුමර මයිල්හුද දත්තෝය. මවු
19 තොමෝ දහසකුදු දිනී. කුමරහුගේ ආරක්ෂාවද විධානක
ළාය. ආයුක්තකතෙමේ මැනියන් කී සියල්ලම ඔහුට දන්වා
20 දහසෙකුත් මසු දහසකුත් දී පඬුල බ්‍රාහ්මණයා වෙත යැවූ
යේය. වේදපාරගතවූ බොහෝ සම්පත්ඇති පඬුල නම් බ්‍රා
21 හ්මණයෙක් දකුණුදිග පඬුල නම් ගම විසීය. කුමාරතෙමේ
22 එහි ගොස් පඬුල බමුණා දිටී "දරුව තෝ පඬුකාභය කුමර
දැ" සි විචාරා "එසේය" සි කීකල ඔහුට සත්කාරකොට "දරු
23 ව තෝ රජවන්නෙහිය සමසැත්තෑ වසක් රජය කරන්නෙ
හිය සිල්ප උගණුව" සි කියා ශිල්ප ඉගැන්වී. ඔහුගේ චන්ද්‍ර
නම් පුතුහා වහා සිප් නිමවූවහට යොධයන් සඞ්ග්‍රහ පිණිස
24 ඒතෙමේ මසු ලක්ෂයක් දුන්නේය. එසින් පන්සියයක් යොධ
යන් සඞ්ග්‍රහකළ කල්හි ඒතෙමේ "යමෙක් විසින් ගන්නාලද්දා
25 වූ පණියෝ රන් (බදුන්) වූනම් ඇය මෙහෙසිය කරව මා පුත්‍ර
26 ද පෙරවිකර" සි කීය. මෙසේ කියා චන්ද්‍රදි යොධයන් සහිත
කුමර එසින් මෙහෙසී. පින්වත් ඒ කුමර මම (පඬුකාභ
යෙමි) අස්වා ඉන් පිටත්ව අවුත් කසාගලවෙත නුවරදී
27 සත්සියයක් පුරුෂසන්ද සියලුන්ට භොජනද (ලැබ)

28 ලැබූ බලඇත්තේ ඉක්බිති එක්දහස් දෙසියයකින් පිරිවර
29 ණලද කුමරතෙමේ ගිරිකඩපව් නම් තෙනට ගියේය. පඬු
කාභය කුමරහු මයිල් ගිරිකඩසිව නම් කුමර පඬුවස්දෙව්
30 රජුවිසින් දෙනලද ඒ දෙසය අනුභව කෙරෙයි. ඒ ක්‍ෂත්‍රිය
31 තෙමේ එකල්හි සියක් කිරියක පැසුනු ගොයම් කප්වයි.
උහුගේ දියනිවූ රූවත්වූ පාලි නම් ක්‍ෂත්‍රිය කුමරියක් වූවා.
32 ඕතොමෝ සොබනා යානකට නැගී පියාතන්ටහා ගොයම්
කපනනන්ට බත්ගෙනනාගෙණ සහපිරිවරින් යන්නීය. කු
33 මාරයාගේ මිනිස්සු ඒ කුමරිය දැක කුමරහට දැන්වූය. කුමර
තෙමේ පිරිස් සහිතව වහා ආයේ ඒ පිරිස දෙකඩකොට
34 ඇය වෙතට සිය යානාව යැවීය "කොහි යද්දී" යි ඇය විචා
ළේය. ඇයවිසින් (වූපරිදී) සියල්ල කීකල ඒ ක්‍ෂත්‍රියතෙමේ
35 ඇයකෙරේ ඇලුනු සිත්ඇත්තේ තමහට බෙදනු පිණිස
බතින් යාච්ඤාකෙළේය. ඒ ක්‍ෂත්‍රියාතොමෝ යානාවෙන්
බැස රන් පසින් බත්ගෙණ නුගරුකක් මුලදී රජකුමරහට
36 දුන්නාය. සෙසුජනයා බත්කවන්ට නුගකොල ගත්තාය.
37 එකෙණෙහි ඒ පණ්යෝ රන්බඳුන් වූහ. රජකුමර ඒ දැක
38 බමුණ කීවා සිහිකොට "මහෙසිකා භාවයට සොබනා
කන්‍යාවක් මට ලැබුනාය" යි සතුටුවී. ඒ සියල්ලන් බත්කැවී
ය. නමුත් ඒබොජුන් ක්‍ෂයනොවූයේය. එකෙකුගේ කොටස
39 ගත්තාසේ එහි පෙණුනේය. මෙවැනි පින්ගුණයෙන් යුක්තා
වූ සුකුමාල ඒ කුමාරිකා එතැන්පටන් ස්වර්ණපාලි නමින්
ප්‍රසිඬවිය.
40 ඒ කුමරියගෙණ යානාවට නැගී ක්‍ෂත්‍රියතෙමේ මහාබල
සේනන් පිරිවරණලදුහයේ නිසැකින් පලාගියේය. ඒ අසා කුම
41 රියගේ පියතෙමේ සියලු මිනිසුන් එවීය. ඔව්හු ගොස්
කලහකොට කුමාරභටයන් විසින් තර්ජනය කරණලද්දාහු
42 පෙරලා ආවූය. එහි කළ නුවර ඒ හේතුවින් කලහ නගර
නම්වී. ඒ අසා ඈයගේ පස්බෑයෝ යුදපිණිස ආවූය. පඬුල
43 බමුණාපිත් චන්ද්‍රකුමර උන් සියල්ලන් මැරවී. ඔවුන් යුදකළ
බිම ලෝහිත වාහඛඩයයි (ලේවාකඩයයි) නම් ලැබූය.
44 ඉක්බිති පඬුකාභය කුමර ගඟින් එතර දොළුගලට ගියේ
45 ය. එහි සතර අවුරුද්දක් වාසයකෙළේය. මයිල්හු එප
වත් අසා රජහු හැර ඔහුහා යුදපිණිස එළඹියෝය. දුම්
46 රක්ගල වෙත කඳවුරු පිහිටුවා බෑනාහා යුඬකළෝය. බෑ
47 නතෙමේ වනාහි මයිලන් ලුහුබැඳ ආය. ගඟින් මොබ
පළවා හැරී උන්ගේ කඳවුරෙහි දැවුරුද්දක් විසීය. ඔව්හු
48 උපතිස් ගමට ගොස් රජහට එපවත් කිවූය. ඒ රජ රහස්

සහිත හස්තක් කුමරහට (එවනුයේ) "තෝ ගහින් එතර
49 අනුභවකර ඉන් මොබ නහමක් එවා" යි තියා යැවීය.
50 රජහුගේ බෑයෝ නවදෙනා ඒ අසා රජහට කිපියෝ
"තෙපිම බොහෝකලක් ඔහුට උපකාර වෙහිය දැන් රට
51 දෙහි එහෙයින් තොප මරනනාමුය" යි කිවූය. ඒ රජ උන්ට
රජය පාවාදුනොන්ය. ඒ සියල්ලෝ එකගව තිස්සනම් බෑයා
52 රජයට ප්‍රධානකළෝය. අභයදූයක මේ අභ: රජතෙමේ
විසිහවුරුද්දක් ඒ උපතිස් ගම්හි වෙසෙමින් රජයකෙ
ළේය.

53 දුම්රක්ගල වසන චේතියා නම් යකිනි තිඹිරියගත
54 විලෙහි වෙළඹරුවින් ඇවිදිනිය. සුදුසිරුරු හා රත්පාඇති
55 සිත්කළු ඒ වෙළඹ එකෙක් දැක "මෙහි මෙබඳු වෙළඹක්
වසනනීය" යි කුමරහට දැන්වීය. කුමරතෙමේ රැහැණගෙ
ණ ඇය අල්වාගන්ට එළඹියේය. පශ්චාත්භාගයෙන් ආවහු
56 දැක ඒ කුමරහු තෙදින් ඕතොමෝ හයඩුවා අතුරුදහන්
නොවී දිවූවාය. ඒතෙමේ දුවනනිය ලුහුබැන්දේය. දුව
නනාවූ ඕතොමෝ ඒ විල සිසාරා සත්සලක් දිවූවාය. මහ
57 ගඟ බැස එයින් එතරව නැවත සත්සලක් දුම්රක්
58 ගල සිසාරා දිවූවාය. නැවත එම විල වටා තුන්සලක් දිවූ
59 වාය. ඊයින් ඉක්බිති කච්ඡකනම් තොටින් ගඟට බටුවාය.
ඒතෙමේ එහිදී වාලධියෙහි ඇයද ගඟෙහි යන තල්පතක්ද
ගතෙත්ය. ඔහුගේ පින්තෙදින් ඒ තල්පත මහ කඩුයෙක්
60 විය. ඇට "නී මරමි" තියා කඩුව එසවිය "ස්වාමිනි ඔබට
රජය ගෙණදෙමි මා නොමැරුව මැනව" යි කීවාය. ඒ
61 තෙමේ ඇය ග්‍රීවයෙහි අල්වාගෙණ කඩුසිළින් නාසායෙහි
62 විද යොතින් බැන්දේය. ඇ වසගවී. මහත් බලඇති ඒ
තෙමේ වෙළඹනැගී දුම්රක්ගලට ගොස් එහි සතර අවුරුද්
63 දක් වාසයකෙළේය. භටසේනා සහිතවූයේ රිටිගලට අවු
දින් යුඩකාලය බලමින් එහි සත්අවුරුද්දක් වාසයකෙ
ළේය.

64 මසිලන් දෙදෙනකුහැර ඔහුගේ සෙසු අටමසිල්හු යුද
65 යට සැරසූනෝ ඒ රිටිගලට එළඹ (එහි පෙරපිහිටි) කඩානුව
66 ර කඳවුරු පිහිටුවාගෙණ සිවුරඟ සෙන් දී සෙනෙවියා යවා
හාත්පසින් රිටිගල වටලෑවූය. යකිනියහා මන්ත්‍රණයකොට
ඇගේ වාචොයුක්තියෙන් රාජපරිෂ්කාර පඬුරු ආයුධයන්ද
67 දී "මේ සියලු උපකරණයන් ගණිව් මම තොප ක්ෂමාකර
වනෙනම්" මෙසේ තියා කුමාරතෙමේ පෙරතුව බලසෙන්
68 යැවීය. "ප්‍රවිෂ්ටවූ ඔහු ගන්නාමෝය" යි ඔවුන් විශ්වාසවූ

කල ඒ කුමර යක්වෙළඹ නැගී මහා බලසෙනගින් පිරිවර
69 ණලදුයේ යුදපිණිස වනෙන් ඒ යකිනි මහ හඬින් හැඬුවා.
ඇතුළත පිටත සිටි කුමාරයාගේ බලසේනාද මහත් අරග
70 ලකළා. කුමාරයාගේ ඒ මිනිස්සු සියල්ලෝ පරසේනා මිනි
71 සුන් වැඩිකොටසද මයිලත් අටදෙනාද මරා ශිෂීරාශිය ක
ළෝය. ඒ සෙනෙවිතෙමේ පලාගොස් ලැහැබකට වනෙන්
72 ය. එහෙයින් මේතෙමේ සේනාපති ගුම්බකයයි කියනුලැබේ.
ඒතෙමේ මතෙහි තබනලද මයිලත්ගේ හිස්ඇති ඉස්
රැස බලා “ලබුරැසක් වැනෑ”යි කීයේය, එහෙයින් ලබු
ගම්යයි නම්වී.

73 මෙසේ දිනූ සග්‍රාමඇති ඒ පඬුකාභය කුමර එතැනින්
74 අනුරධ නම් මුත්තානුවන් වසන තැනට ගියේය. ඒ ආයුෂ්ක
75 තෙමේ තමා රජගේ කුමරුට දී අන්තැනක වාසයකෙළේය.
කුමර ඒ රජගෙහි විසීය, නිමිත්ත ශාස්ත්‍රදන්නන්ද එසේම
76 වාස්තුවිද්‍යාදන්නන්ද විචාරවා ඒ ගම්හිම උතුම් නුවරක්
ඉදිකරවී. (විජයකුමර ඇමැතිවූද භද්‍රකාත්‍යායන බිසවුන්
බෑවූද) අනුරධයන් දෙදෙනාගේ නිවාස හෙයින්ද අනුරේ
77 නැකතින් පටන්ගත් බැවින්ද අනුරාපුර නම්වී. මයිලත්
ගේ සේසත් ගෙන්වා මෙහි සයජාත විල්හි ශොධවා සේ
78 සත් නගා ඒ විලදියෙන්ම ඒ පඬුකාභය කුමර තමන්
අභිෂෙකය කරවී. ඒ ස්වර්ණපාලි නම් දේවියද මහෙ
79 සිකාබැවිහි අභිෂෙක කෙළේය. චන්ද්‍රකුමරහට විධිවූ
පරිද්දෙන් පෙරෙවි තනතුරු දුන්නේය. සෙසු භටයන්ටද
80 සුදුසු පරිද්දෙන් තනතුරු දුන්නේය. මෑනියන්ටද තමන්
ටද උපකාර කළහෙයින් දෙවුම්සිල් අභයරජ නොමරවා
81 ඔහුට රෑ රජය දුන්නේය. ඒතෙම නුවර රක්නේ විය.
82 එතැන් පටන් නුවර නගරතුත්තිකයෝ වූහ. ගිරිකඩසිව
නම් බිරින්ද පියහූද නොමරවා ගල්කඩරටම ඔහුට දුන්
නේය.

83 ඒ විලද කණවා බොහෝ දිය ඇතිකෙළේය. ජයලත්
84 කල දියනෑ හෙයින් ජයවැවයයි නම්වී. නුවරට නැගෙණ
හිර කාළවෙළයක්ෂයා පිහිටවී හෝ කාළවෙළයකු දෙ
වොල ඉදිකළේය. ඒ චිත්‍රරජයකු අභයවාපි යටභාගයෙහි
85 වාසයකරවී. යක්ෂයොනියෙහි උපන්නාවූ පූර්වොපකාරී ඒ
දාසිය නුවර දකුණුදිග් දොර කෙළෙහිගුණ දන්නා ඒ තෙම
86 වාසයකරවී. වළවාමුඛ යකිනි රජගෙවූයන් ඇතුළත වැස්
වී. උන්ටද අන්‍යයන්ටද අවුරුදුපතා බලිදානය කරවී.
87 නැකැත්කෙළි දවස්හි ඒ පඬුකාභය රජතෙමේ චිත්‍රරාජයා

සමග සමඅස්නෙහි හිදගෙණ දෙව් මිනිස් නැටුම් කරව
88 මින් රතික්‍රීඩායෙන් යුක්තව සිත්ඇලවී. දොරගම් සතරද
අබාවැවද එසේම මහත් සොහොන්භූමිය හා දම්ගෙඩිය
89 හෝ වධස්ථානයද බටහිරි රැජනද වෙසමුණියා නුග (දෙ
වොල) ද වැදිදෙවියා තල් (දෙවොල) ද සභාග වස්තුවද
90 ප්‍රහෙද ගෙයද යන මෙතෙක්දූ බටහිරිදොර දිසාභාගයෙහි
ඒ රජතෙමේම පිහිටවී.

91 නගරශොධක පන්සියයක් සැඩොල් මිනිසුන්ද වච්චශ්
ශොධක දෙසියයක් සැඩොල් පුරුෂයන්ද මළමිනි බැහැර
92 ගෙණයනනාවූ එක්සිය පණසක් සැඩොලුන්ද එතෙක්ම
(එක්සිය පණසක්) සොහොන්ගොව් සැඩොලුන්ද සො
93 හොනින් වයඹදිග උන්ගේ ගම්ද පිහිටවිය. ඒ මිනිස්සු
විධිවූ පරිද්දෙන් ඒ කම්මයන් කළාහුය. ඒ සැඩොල්ගමට
94 ඉසානදික්හි නිචසුසානයයි නම්ලත් සැඩොලුන්ගේ සො
95 හොන කරවී. ඒ සොහොනින් උතුරුදිග පහන්පව් අතර
වැද්දන්ගේ ගෙවල්පෙළ පිහිටුවන ලද්දේවිය.

96 ඊට උතුරුදිග්හි ගැමුණුවැව දක්වා නොයෙක් තවුසන්
97 ගේ අසපුව කරණලද්දේවී. එම සොහොනට පෙරදිග
98 රජතෙමේ ජෝතිය නිගණ්ඨයාගේ ගෙය කරවී. එම පෙ
දෙස ගිරිනම් නිගණ්ඨතෙමේද නානා පාෂාඩයෝද බො
99 හෝ ශ්‍රමණයෝද විසූහ. එසේම රජතෙමේ කුම්භාඩනම්
නිගණ්ඨයා පිණිස දෙවොලක් කරවී. ඒ දෙවොල එනම්
100 විය. එයින් බටහිරි භාගයෙහි ව්‍යාධපාළියෙන් පෙරදිග
101 මිථ්‍යාදෘෂ්ටි කුලයන් පන්සියයක් විසීය. එසේම ඒ රජතෙ
මේ ජෝතියගෙයින් ඔබ ගැමුණුවැවින් මොබ පරිබ්‍රාජකා
102 රාමයක් කරවිය. ආජීවකයන් ගෙයක්ද බමුණන්ට ආධාර
ගෙයක්ද සිව්ගෙයක් හා ආශිර්වාදශාලාවක්ද ඒ ඒ තැන
103 කරවී. ලබ්ධෙක්‍ෂ පඬුකාභය රජතෙමේ අභිෂෙකලත් දශ
104 වස් ඇතොත් මුළුලක්දිව්හි ග්‍රාමසීමා නියම කෙළේය. යක්‍ෂ
භූතයන් යහළුකොට ඇති ඒ රජතෙමේ දෘශ්‍යමානවූ කාළ
වෙළය චිත්‍රරාජය යන මොවුන් සමග සම්පත් අනුභව කෙ
105 ළේය. පඬුකාභය රජහටද අභයරජහටද අතුර රජුන්
නැති සතළොස් අවුරුද්දක්වූහ.

106 ධෘතිමත් ඒ පඬුකාභය රජතෙමේ සත්තිස් වස්ඇතොත්
රජබවට පැමින රම්‍යවූ නොහඬුවූ සමෘද්ධවූ මේ අනුරාපුරෙහි
සැත්තෑ අවුරුද්දක් රජය කෙළේය.

මෙතෙකින් හුදිජනයා පහන් සංවෙග පිණිස කළ මහ
වස පඬුකාභයාභිසෙක නම්වූ දසවන අදියර නිමි.

# 11 වෙනි පරිච්ඡෙදය.

1 ඒ රජු ඇවෑමෙන් සවර්ණපාලි බිසවුන්පිත් එම රජුටදාවූ
2 මුටසීවයයි ප්‍රසිද්ධ කුමර නිරාකුල රජයට පැමිනියේය. ඒ
රජතෙමේ පලමල්තුරින් හොබනා මහාමෙඝවනොද්‍යාන
3 නම්වූ අනූනගුණයෙන් යුක්ත යහපත් උයන කරවීය. උයන්
බිම්ගන්නා දවස නොකල් මහවැස්සෙක් වටුයේය, එහෙ
4 යින් ඒ උයන මහාමෙඝවන නම්වී. මුටසීව රජතෙමේ
ලඞ්කා මහීකාන්තාවගේ මුහුනුබඳු යහපත් පුරශ්‍රෙෂ්ඨවූ
අනුරාපුරෙහි සැටවසක් රජය කෙළේසි.

5 ඒ රජහට උතුන් හිතෙසීවූ පුතුන් දසදෙනෙක් වූහ. කුල
6 යට සුදුසු කීකරුවූ දූන් දෙදෙනෙක්ද වූය. දෙවානම් පිය
තිස්ස (දෙවෙනි පෑතිසස) යයි ප්‍රසිද්ධවූ දෙවැනි පුත්‍රතෙමේ
ඒ සියලු සහෝදරයන් අතුරෙන් පින්පැණ ගුණෙන්
අධිකවී.

7 ඒ දෙවෙනි පෑතිස් කුමර පියරජහු ඇවෑමෙන් රජ වීය
8 ඒ රජහුගේ අභිෂෙකය කැටිවම බොහෝ අරුම දෑ වූහ. මුළු
ලක්දිව්හි පොළෝතුළ පිහිටි නිධානයෝද රත්නයෝද
9 උඩනැගී පොළෝතලයට නැංගාහ. ලක්දිව්වෙත බුන්
10 නැව්හි පිහිටියාවූද ඒ සමුදුරජතවූද රත්නයෝ ගොඩනැං
ගාහ. ඡාතපබ්බත පාදයෙහි හුණයටි තුනක් උපන්හ,
11 ප්‍රමාණයෙන් රියකෙවිටි පමණය; ඉන් එකක් ලතායෂ්ටි
නම, එහි ලතාවෝ කලධෞතවර්ණ ඇත්තෝය; සිත්කළු
12 ඒ ලතාවෝ රන්වන්ව සිත්අලවමින් පැණෙති, ඉන් එකක්
කුසුමයෂ්ටිනම එහි වනාහි නොයෙක් වර්ණඇති අතිසඳුටවූ
13 නොයෙක් කුසුමයෝ පැණෙති. එකක් ශකුනයෂ්ටිනම,
එහි බොහෝවූ නොයෙක්වර්ණඇති නානා වර්ගයෙහි
මෘග පක්ෂීහු දිවිඇත්තාවුන්සේ පැණෙති.

14 හයමුතුය ගජමුතුය රථමුතුය ආමලකීමුතුය වලලුමුතුය
අඟුලිවෙඨකමුතුය කකුධඵලමුතුය ප්‍රකෘතිමුතුය යන මේ
15 අටජතිඇති මුක්තාවෝ මුහුදින් නැගී වෙරළෙහි වැටි
යක්සේ සිටගත්තාහ. මේ සියල්ල දෙවෙනි පෑතිස් රජහු
16 ගේ පින් පැලඹීමෙකි. ඉඳුනිල් වෙරළුම්ණි පියුම්රාම්ණි
යන මේ (මැණික් පොළෝතෙලෙහි නැගීසිටියහ). මෙකී
17 රුවන්ද යටකී මුතුද ඒ යෂ්ටීන්ද (ඔටුනුපලන්) සත්දවස
ඇතුළතම රජුවෙත එලවූහ, ඒ දැක සතුටුවූ රජතෙමේ
18 “අනර්ඝ මේ රත්නයන්ට මා මිතුරු දම්සෝ රජතෙමේ

සුදුස්සේය අනිකෙක් නුසුදුස්සේය, එහෙයින් මේ රුවන්
19 ඔහුට දෙන්නෙමැ"යි සිතුය. දෙවෙනි පෑතිස්සය දම්සෝය
යන මේ (මිහිපල්හු) දෙදෙනා බොහෝකල් පටන් අදෘෂ්ට
මිත්‍රයෝය, ඉක්බිති ඒ (දෙවෙනි පෑතිස්) රජතෙමේ බෑ
20 ණවූ මහාරිෂ්ට නම් ඇමැතියා ප්‍රධානකොට බමුණාය ඇමැ
21 තියාය ගණකය යන ඒ සතරදෙනා බලසමූහයෙන්
22 පිරිවරණලදුවන් දූතයන් කොට මැණික්ජාති තුනය ඒ
තුන් රථයෂ්ටිහුය දක්ෂිණාවෘත්ත ශඞ්ඛය යටකී අටජාති
23 මුතුය යන මේ අනගි රත්නයන් අතටදී (දම්සෝ රජුවෙත)
යවූයේය. ඔව්හු දඹකොල පටුනෙන් නැව්නැගී සැපසේ
සත්දවසකින් (මුහුදුපිට ගොස්) තොටලැබ පසුව ඉන් සත්
24 දවසකින් පැළලුප්නුවරට පැමින දම්සෝ රජහට පඬුරු
දුන්හ. ඒතෙමේ ඒ දැක සතුටුවීය.
25 "මෙබඳු රත්නයන් මෙහි මට නැත්තාහ"යි මෙසේ
26 සිතා සතුටුවූ රජතෙමේ අරිට්ඨනම් (කුමරහට) සෙනෙවි
තනතුරුද බමුණට පෙරෙවිබැව්ද දුනෙන්ය. ඒ ඇමැතිය
27 හට වනාහි දණ්ඩනායක තනතුරුද ගණකයහට සිටු තන
තුරුද දුනෙන්ය. ඔවුන්ට අනල්ප භොගයන්ද වාසයට
ගෙවල්ද දී ඇමැතියන්හා මන්ත්‍රණය කොට ප්‍රතිපඬුරු දැක
28 වල්විදුනාය මඟුල්කඩුව සේසත මිරිවැඩිසඟල ඉස්වෙළුම
පාමගය කෙඩිකාව හරිපඬ්වනයෙහි හටගන්නා සඳුන
29 නොදෙව්නා කෙළක් පිළිය මාහැඟි අත්පිස්නාය නයින්
30 විසින් ගෙණෙනලද අජනය අරුණුවන් මැටිය අනෝ
තත්ත විලින් ගෙණ ජලය ගඟාජලය සක්ගෙඩිය නන්‍දා
31 වෘත්තය වර්ධමානකය කුමාරිකාය රන්බඳුන් බඳුය මාහැඟි
32 සිවිකාය මාහැඟි අරළු නෙල්ලිය අමාඔසුය ශකුනාහෘත
33 ඇල් සැටදහසක් අමුණ පිරිවරින් වෙසෙසනලද අභිෂෙ
කොප කරණයන්ද දී නරෙශ්වරතෙමේ සුදුසු කාලයෙහි යහ
ලුවාට පඬුරුත් මේ මතුකියන දහම් පඬුරුත් දී දූතයන්පෙ
34 රලා එවූයේය. "මම බුදුන් දහම් සඟ සරණ ගතවූයෙම්
ශාක්‍යපුත්‍ර බුදුසසුන්හි උපාසකබැව් ගිවිසෙසම් නරෝත්ත
35 මය තෙපිද ශ්‍රද්ධාවෙන් සිත පහදාගෙණ මේ තුණුරුවන්
36 සරණ යව. නැවතත් මාගේ යහලුවාහට අභිෂෙක කර
ව"යි කියා යහලු දම්සෝ රජතෙමේ සත්කාරකොට ඒ
ඇමැතියන් එවී.
37 ඒ ඇමැතිදූතයෝ ඉතා සත්කාර කරණලද්දෝ පස්මසක්
එහි වැස වෙසක්මස ශුක්ලපක්ෂයෙහි පැළවියදෘ පිටත්වූ
38 වෝ, දමලිපතියෙහිදී නැව්නැගී දඹකොල පටුන බැස

39 දෙළොස්වක්ද මෙහි පැමිනි රජහු දුටහ. දූතයෝ ඒ පඬු රු ලඩ්කාරජහට දුන්නෝයි. ලඩ්කාපතිතෙමේ ඔවුන්ට
40 මහත් සත්කාර කෙළේය. ස්වාමියා කෙරෙහි ඇදහිලිඇති ඒ ඇමැතියෝ උඳුවප් පුර පෑළවිය දවස්හි අභිෂෙක ලද්ද
41 වූද ලඩ්කාන්‍ද්‍රයා ධර්මාශොක රජහුගේ වචනය කියා ස්වා මීන්ගේ අභිවෘද්ධියෙහි ඇළුනාහු ලඩ්කාවැස්සාහට හිත වැඩෙහි ඇළුනු (රජහු) නැවතද අභිෂෙක කළෝයි.
42 දෙවානම්පිය යනු උපපද නම්කොට ඇති ජනයාහට සැපදෙනනාවූ ඒ නරෙන්‍ද්‍රයා වෙසක්මස පුණු පොහෝද ලක්දිව්හි ඉතා ප්‍රසිද්ධ සමෘද්ධිණි උත්සවයෙහිදී මෙසේ තමන් (නැවත) අභිෂෙක කෙළේයි.

මෙතෙකින් හුදීජනයා පහන් සංවේග පිණිස කළ මහ වස දෙවානම්පියතිස්සාභිසෙක නම්වූ එකොළොස්වන අදී යර නිමි.

---

# 12 වෙනි පරිච්ඡේදය.

1 බුදුසසුන් බබුලුවනනාවූ ඒ මොග්ගලිපුත්ත මහාස්ථවිර
2 තෙමේ (තුන්වන) සඞ්ගායනාව නිමවා මතුකාලය බලන සේක්, ප්‍රත්‍යන්ත ජනපදයන්හි සසුන් පිහිටනබැව් බලා වප්මස්හිදී ඒ ඒ තෙරුන් ඒ ඒ ජනපදයනට යැවූසේක.
3 කශ්මීර ගන්ධාර රටට මජ්ඣන්තික නම් මහාතෙරහු යැවූ සේක. මහිස මඩලයට මහාදෙව මහතෙරහු යැවූසේක.
4 වනවාසි දෙසයට රක්ඛිත නම් මහතෙරහු යැවූසේක. වැලි අපරන්ත දෙශයට යොණක ධර්මරක්ෂිත නම් මහතෙරහු
5 යැවූසේක. මහාරාෂ්ට්‍ර ජනපදයට මහාධර්මරක්ෂිත ස්ථවිර නම් මහතෙරහු යැවූසේක. මහාරක්ෂිත මහතෙරහු
6 වනාහි යවන ලොකයට යැවූසේක. හිමවත් පෙදෙසට මධ්‍යම නම් මහතෙරහු යැවූසේක. සුවණ්ණභූමි නම් දෙශ
7 යට ශොණය උත්තරය යන මහතෙර දෙදෙනා යැවූසේක. ප්‍රසිද්ධ මහාමහෙන්‍ද්‍රස්ථවිරය ඉට්ටියස්ථවිරය උත්තියස්ථවිරය
8 ශම්බලස්ථවිරය භද්‍රශාලස්ථවිරය යන ස්වකීය සද්ධිවිහාරික ස්ථවිර පස්දෙනා "තෙපි (ගොස්) මනොඥ ලක්දිව්හි මනොඥ බුදුසසුන් පිහිටුව" යි පිටත් කළසේක.

9 එකල්හි මහාසෘද්ධිඇති ආරවාලනම් භයඞ්කර නාග
10 රජයා පාණ වැසිවස්වා කශ්මීර ගන්ධාර දෙරට පැසුනු සස්‍ය
වර්ගය සියල්ල මුහුද හෙලයි. මධ්‍යන්තික නම් මහාස්ථවිර
11 තෙම වහා අහසින් එහි වැඩ අරවාල විල්හි දියපිට සක්
මන් ආදිය කළසේක. නාගයෝ ඒ දැක රොස්වූවෝ රජ
12 හට දැන්වූහ. වැලි කිපුනු ඒ නාරජතෙමේ අනෙකප්‍රකාර
භයඞ්කර ක්‍රියා කෙළේය. (එනම්) මහා වාතයෝ හමති,
13 මෙඝය ගර්ජනා කෙරෙයි, එසේම වසිති, ඉන්ද්‍රාසනිහු පුපු
රති, ඒ ඒ දිගින් විදුලිගසති, වෘක්ෂයෝද පර්වතයන්ගේ
14 කූටයෝද ඇදවැටෙති. විකෘත රූපඇති නාගයෝද හැම
අතින් භයගන්වති. නාරජතෙමේත් තමා දුම්යි, නොයෙ
ක් පරිදෙන් ආක්‍රොශ කෙරෙමින් (ගිනිගත්තාසේ) දිලි
සෙයි.

15 ස්ථවිරතෙමේ ඒ සියලු භීෂණය සෘද්ධිබලයෙන් ප්‍රතිබාහ
නය කොට තමන් උතුම් බලය දක්වනසේක් "ඉදින් දෙවි
16 යන් සහිත ලෝවැසිතෙමේ අවුදින් මා භයගන්වනොත්
නමුත් මට භයභෛරවයක් උපදවන්ට හැකෙකක් නො
17 වනොන්ය. මහානාගය තෙපි ඉදින් සමුද්‍ර පර්වත සහිත
සියලූ පොළොව ඔසවා මා මතුයෙහි දමනෙනාහිද මට භය
18 භෛරවයක් උපදවන්ට හැකි නොවනෙනාහිය නාගරාජය
19 හුදක් තටම වෙහෙස වනොන්ය" යි වදාළසේක. ඒ අසා මද
සිඳුනු නාරජහට ස්ථවිරතෙමේ ධර්මදෙසනා කළසේක. ඉන්
20 පසු නාරජතෙමේ තිසරණ පන්සිල්හි පිහිටියේය. එසේම
සුවාසූ දහසක් නාගයෝය හිමවත්හි බොහෝ ගන්ධර්ව
21 යෝය යක්‍ෂයෝය කුම්භණ්ඩයෝය යන මොව්හු (තිසරණ
පන්සිල්හි පිහිටියෝය) පඤ්චක නම් යක්‍ෂතෙමේ වනාහි
හාරිත නම් යක්‍ෂිනිය පන්සියයක් පුතුන්ය යන මොවුන්හා
22 සෝවාන් ඵලයට පැමිනියේය. ඉක්බිති ඒ මහතෙරනුවන්
විසින් "දැන් මෙයින්මතු පෙරසේ ක්‍රෝධය නුපදවාවා ස
23 ස්‍යහානියද නොකරව්. සත්ත්වයෝ සුවයක්ම කැමැත්තාහ
සතුන් කෙරෙහි මෙත්කෙරෙත්වා මිනුෂ්‍යයෝ සුවසේ
වසත්වා" යි මෙසේ අනුශාසනා කරණලද්දාවූ ඔව්හු එසේම
පිළිපැද්දෝය.

24 ඉක්බිති ඒ නාරජ තෙරනුවන් රුවන්පළඟ හිඳුවා පවන්
සලමින් උන්වහන්සේ වෙත සිටියේය. එකල කශ්මීර
25 ගන්ධාර රටවැසි මිනිස්සු නාරජහට පූජාපිණ්ඩ එලඹියාහු,
26 මහාසෘද්ධිඇති තෙරුන්කරා ගොස්, තෙරුන්ම අභිවාදනය
කොට එකත් පසෙක හුනානාහ. ස්ථවිරතෙමේ ඒ මිනි

27 සුත්ට ආශීවිෂොපම සූත්‍රය දෙසනාකළසේක. අසූදහ
සක් ප්‍රාණීන්ට ධර්මාභිසමය වී. ලක්‍ෂයක් මිනිස්සු තෙරුන්
28 වෙත පැවිදිවූහ. එතැන් පටන් ඒ කශ්මීර ගන්ධාර වැස්
සෝ මේදක්වාම තුනුරුවන් සරණ පරායණවූවෝ, කසා
පිළියෙන් හෙබියෝය.

29 ඒ මහාදෙවස්ථවිරතෙමේ මහීසමඩල දෙශයට වැඩ ජන
යා මැද පැමිණිසේක්, දේවදූත සූත්‍රාන්තය වදාළසේක. සත
30 ළිස් දහසක් ප්‍රාණීහු අධිගම ලැබූවෝය. සතළිස් දහසක්
31 පුරුෂයෝ උන්වහන්සේ වෙත පැවිදිදූහ.——වැලිරක්ෂිත
නම් මහාස්ථවිරතෙමේ වනවාස දනව් පැමින අහසෙහි
32 වැඩසිට ජනයා මධ්‍යගතවූසේක්, අනවරාග්‍රසංයුක්තය වදාළ
සේක. සැටදහසක් ප්‍රාණීන්ට ධර්මාභිසමය වී. සත්තිස්
33 දහසක් මිනිස්සු උන්වහන්සේවෙත පැවිදිවූහ. ඒ දෙශ
යෙහි විහාර පන්සියයක් පිහිටියේය. ඒ මහාස්ථවිරතෙමේ
34 ඒ ජනපදයෙහි බුදුසසුන් පිහිටවූසේක——ධර්මාධර්ම දැන්
මෙහි පණ්ඩිතවූ යොණක ධර්මරක්‍ෂිත නම් මහාස්ථවිරතෙ
මේ අපරන්තක දනව් වැඩ ජනයාමැද පැමිනිසේක්, අග්ගි
35 කඛන්ධූපමසූත්‍රය වදාරා එහි පැමිනි සත්තිස් දහසක් ප්‍රාණීන්
36 දහම් අමා පෙවූසේක. පුරුෂයන් දහසක්ද ඊට වැඩියක්
37 සත්‍රීහුද රජකුලෙන්ම නික්ම පැවිදිදූහ——ඒ මහාධර්ම
රක්‍ෂිත නම් මහර්ෂිතෙමේ මහරටට වැඩ එහිදී මහානාරද
38 කාශ්‍යප ජාතකය වදාළසේක. සුවාසූ දහසක් ප්‍රාණීහු
මාර්ගඵලයට පැමිනියෝය. තෙළෙස් දහසක් මිනිස්සු උන්
වහන්සේ වෙත පැවිදිවූහ.

39 ඒ මහාරක්‍ෂිත නම් මහාඍෂිතෙමේ යොන්රට වැඩ ජන
යාමැද පැමිනිසේක්, කාලකාරාම සූත්‍රාන්තය වදාළසේක.
40 එක්ලක්‍ෂ සැත්තෑ දහසක් ප්‍රාණීහු මාර්ගඵලයට පැමිනි
41 යෝය. දසදහසක් දෙනා පැවිදිවූහ——මධ්‍යමනම් මහර්
ෂිතෙමේ සතරතෙරකෙනෙකුන්හා හිමවත් පෙදෙස් වැඩ
42 දම්සක්පැවතුම් සූත්‍රය වදාළසේක. අසූකෙළක් ප්‍රාණීහු
මාර්ගඵලයට පැමිනියෝය. ඒ ස්ථවිරවරයෝ පස්දෙනා
වෙන වෙන පස්රටක් පැහැදවූහ. එක් එක් තෙරකෙනෙ
43 කුන් වෙත ලක්‍ෂයක් ලක්‍ෂයක් මිනිස්සු සම්මාසම්බුදු සසුන්
44 හි ප්‍රසන්නයෙන් පැවිදිවූහ——මහාඍද්ධිඇති ශොණස්ථ
විරතෙමේ උතුරුතෙරුන් සමග ස්වර්ණභූමියට වැඩිසේක.
45 ජලරාක්‍ෂසියක් තොමෝ මුහුදෙන් නික්මඅවුත් රජගෙයි
උපනුපන් දරුවන් භක්‍ෂණය කොට පෙරලා මුහුදු වදනී
46 ය, එකෙණෙහි රජගෙහි දරුවෙක්ද උපනෙන්ය. මිනිස්සු

47 තෙරුන් දැක “රකුසන්ගේ යහලුවෝය”යි සිතා මරන්ට
ආයුධගත් අත්ඇතිව එළඹුනාහ. ඒ තෙරුන්වහන්සේලා
48 “මේ කිමෙක්දැ”යි විචාරා ඒ මිනිසුන්ට “අපි සිල්වත් ශ්‍රම
49 ණයම්හ රාක්ෂසියගේ යහලුවෝ නොවම්හ”යි වදාළෝය.
පිරිස්සහිත ඒ රාක්ෂසීතොමෝත් සාගරයෙන් නික්මුනාය.
ඒ දැක මහජනයෝ මහහඬින් හැඬූහ. ස්ථවිරතෙමේ භයඞ්ක
50 රවූ රකුසන් දෙගුණයක් මවාගෙණ පිරිස්සහිත ඒ රකුසිය
හාත්පසින් වටලූසේක. ඕතොමෝ “මොවුන් විසින් මේ
51 ස්ථානය ලබනලදැ”යි සිතා බියවැද පලාගියා. හාත්පසින්
ඒ දෙශයට අරකුත් තබා ස්ථවිරතෙමේ ඒ රැස්වූ පිරිසෙහි
52 බ්‍රහ්මජාලය දේසනාකළසේක. බොහෝ මිනිස්සු සරණ
53 සිල්හි පිහිටියෝය. සැටදහසක් ප්‍රාණීන්ට ධර්මාභිසමය
විය. තුන්දහස් පන්සියයක් කුලදරුවෝ පැවිදිවූහ. එක්
54 දහස් පන්සියයක් කුලකුමාරිකාවෝ පැවිදිවූහ. එවක්
පටන් මිහිපල්හු රජගෙහි උපන් කුමරුවන්ට ශොණ
උත්තර තෙරනුවන් හා සමාන නම්කළෝය.

55 උන්වහන්සේලා වනාහි මහාකරුණාඇති බුදුන්ගේපවා
චිත්තාකර්ෂණය කටහැකි අධිගතාමෘත නිවන් සැපයපවා
අනුභව කෙරෙමින් නොහිඳ ඒ ඒ දනව් සැරිසරා ලෝවැස්
සාහට යහපතක්ම කළෝය, එහෙයින් ලෝවැඩෙහි කවර
නම් නුවනැත්තෙක් පමාවනෙන්ද? නොවේමැයි.

මෙතෙකින් සුදිජනයා පහන් සංවේගපිණිස කළ මහ
වස නානාදෙසප්පසාදක නම් දෙළොස්වන අදියර නිමි.

---

# 13 වෙනි පරිච්ඡේදය.

1 එකල උපසපන් දොළොස් හැවිරිදිවූ මහානුවනැති ඒ
මහාමහෙන්ද්‍ර ස්ථවිරතෙමේ උපාධ්‍යායවූ මොග්ගලිපුත්තති
2 ස්ස තෙරුන්හා සඞ්ඝයා විසින් අණවනු ලත්සේක්, ලක්දිව්
පහයනට කල්බලමින් “මුටසීව රජ මහළුය පුත්‍රතෙමේ
3 රජවේව”යි සිතූසේක. ඒ අතර ඥාතිවර්ගයා දක්නට සිතා
උපාධ්‍යායන් වහන්සේද සඞ්ඝයාද වැඳ පියරජු විචාළසේක.
4 යටකී තෙරුන්වහන්සේලා සතරදෙනාද කැටිව සඞ්ඝ
මිත්‍රා පිත් ෂඩ්අභිඥාහා මහාසෘද්ධිඇති සුමණ සාමණේර
5 යන්ද ගෙණ නෑයන් සඞ්ග්‍රහ කරණට දක්ෂිණගිරි දනව්
වැඩිසේක. ඉක්බිති එහි හැසිරෙණ උන්වහන්සේට සම

6 සක් ඉක්මුනාහ. ක්‍රමයෙන් මවුබිසවුන් වසන වෙදිසගිරි නුවර අවුත් මෑනියන් දුටුසේක. දේවීතොමෝ ප්‍රියපුත්‍ර
7 දැක පිරිස් සහිත උත්වහන්සේ වලඳවා තමා විසින් කරවනලද යහපත් වෙදිසගිරි විහාරයට නැංගවූසේක.

8 ඒ අසෝක රජතෙමේ කුමාර කාලයෙහි සිය පියහු විසින් දෙනලද අවන්තිරට අනුභවකෙරෙමින් පෙර උදේනිනුවර
9 යනකල වේදිස නම් නුවර නවාතැන් ගෙණ එහිදී මනා
10 රූඇති සිටුකුලෙහි උපන් දේවීනම් කුමරියක් ලැබ ඇය සමග වාසය කෙළේය. ඕතොමෝ එයින් ගැබ්ගෙණ උදේනි
11 නුවරදී යහපත් රූඇති මහිඳු නම් ඒ කුමරහු වැදූවා. දෑවූ රුදක් ඉක්ම සඞ්ඝමිත්‍රා නම් දුවද වැදූවා. මේ කාලයෙහි
12 ඒ බිසව් වේදිස නුවර වසනානීය. කල්දන්නා මහෙන්ද්‍රස්ථවිරතෙමේ එහි වැඩහිඳ "මපියානන් විසින් අණවනලද දෙවන අභිෂෙක මහොත්සවය, ඒ දෙවෙනි පෑතිස් මහ
13 රජතෙමේ අනුභවකෙරේවා, දූතයන් අතින් අසා තුනුරුවන්
14 ගුණ දනීවා, පොසොන් පුණු පොහෝ දවස්හි මිශ්‍රක පර්වතයට නගීවා, එදවස්ම අපි ද්‍රවර ලක්දිව් යනනාමෝය" යි සිතූසේක.

15 මහෙන්ද්‍රතෙමේ උතුම්වූ මහෙන්ද්‍රස්ථවිරයන් කරා එළඹ "ලක්දිව් පහන් කරවන්ට වැඩිය මැනව, බුදුන් විසිනුදු ව්‍යා
16 කරණ කරණලදුයෙහිය, අපිදු ඊට උපකාර වනනාමෝය" යි
17 කීයේයි. මෙහෙසිය බුහුනත් පිත් හඬුක නම් කුමාරතෙමේ තෙරුන් විසින් මවුබිසවුන්ට දේසනාකළ දහම් අසා අනාගාමි ඵලයට පැමිනියේ තෙරහු වෙත විසීය.

18 එහි මසක් වැස පොසොන් පුණුපොහෝදවස්හි ස්ථවිර
19 තෙමේ තෙරුන් සතරදෙනාය සුමණ සාමණේරය හඬුකනම් ඒ අනාගාමි කුමාරය යන මොවුන්හා කැටිව නෑ
20 සින් බලා එහි නොඇළුනුසේක්, ඒ විහාරයෙන් අහසට නැගී මහාසෘඞ්ධි ඇතිසේක්, ක්ෂණයකින්ම මෙහි වැඩ සිත්කළු මිශ්‍රක පර්වතයෙහි පියල්කුළ උතුම් රුචිර අඹතෙලෙහි වැඩසිටිසේක.

21 පරිනිර්වාණ මඤ්චකයෙහි හොත් මුනිරජයන් විසින් ලක් වැඩ පිණිස ලක්දිව් ප්‍රසාදකර ගුණයෙන් ප්‍රකාශකරණලදුවූ ලක්දිව්හි බුදුන්නු බඳු ඒ මහාස්ථවිරතෙමේ ඊට වැඩ පිණිස ලක්දිව්හි දෙවියන් විසින් පුදනලදුයේ එහි වැඩ උන්සේක.

මෙතෙකින් භූදිජනයා පහන්සංවේග පිණිස කළ මහවස මහින්දාගමන නම්වූ තෙළෙස්වන අදියරනිමි.

# 14 වෙනි පරිච්ඡේදය.

1 ඒ දෙවෙනි පෑතිස් රජ නුවර වැසියන්ට දියකෙළි විධාන
2 කොට තෙමේ මුවදඩකෙළියට ගියේය. සතළිස් දහසක්
3 මිනිසුන් විසින් පිරිවරණලදුයේ පයින්ම දුවමින් මිශ්‍රක
පර්වතයට ගියේය. ඒ පව්හි වසන දෙවියා රජහට තෙ
4 රුන් දක්වනු කැමැතෙන් ගෝණවේස ඇතෙත් තණපඳුරක්
කමින් සිටියාසේ දක්වීය. රජතෙමේ දැක "පමාවූවනු විදි
5 නට යුතුනොවේ" යි සිතා දුනුදීය පෙළිය. ගෝණතෙමේ
පර්වතානතරයට දිවීය. රජතෙමේ ලුහුබැඳ ගියේය. මෑග
වෙස්ගත් ඒ දෙව්තෙමේ තෙරුන්වෙත ගොස් රජුවිසින්
තෙරුන් දුටුකල තෙමේ අතුරුදහන්වී.

6 ස්ථවිරතෙමේ "අප බොහෝදෙනා දුටුකල වැඩියක්ම
බානේය" යි සිතා තමන් පමණක් දක්වූසේක. රජතෙමේ ඒ
7 තෙරහු දැක බියපත්ව සිටියේය. ස්ථවිරතෙමේ ඔහුට "එව ති
ස්සය" යි වදාළසේක. තිස්සයයි යන බසින්ම රජතෙමේ යක්ෂ
8 යෙකැයි සිතීය. ස්ථවිරතෙමේ "මහරජානෙනි අපි ධර්මරාජ
න්වූ බුදුන් සව්ශ්‍රමණයම්හ තොපට අනුකම්පා පිණිසම දඹදි
9 වින් මෙහි ආම්හ" යි වදාළසේක. ඒ අසා රජතෙමේ පහවූ
10 බියඇතෙත්වී. යහලුවාගේ අසුන් මෙනෙහිකොට ශ්‍රමණ
යෝයයි නිශ්චිතකරණලදුයේ දුනුහී දමා ඒ තෙරුන්වෙත
එළඹ ඒ තෙරුන්හාසමග සතුටුවනුයේ උන්වහන්සේවෙත
හිඳගත.

11 එකල්හි මහරජහුගේ පිරිස් අවුදින් පිරිවැරූය. එකල්හි
මහාස්ථවිරතෙමේ සමග ආ සෙසු සදෙනා දක්වූසේක. රජ
12 තෙමේ උන්වහන්සේලා දැක "මොව්හු කවදා ආවෝදැ" යි
13 කීය. "මාසමගය" යි තෙරුන් විසින් වදාළකල නැවතත්
"මෙබඳු අන්‍යවූත් යතිහු දඹදිව්හි ඇද්දැ" යි මේ විචාළේය.
14 ස්ථවිරතෙමේ "ජම්බුද්වීපය තෙමේ කාෂායවස්ත්‍රයෙන් බබලයි
එහිවනාහි ත්‍රිවිද්‍යා ඇත්තෝය ඍද්ධිප්‍රාප්තයෝය පරසිත්
දන්නෝය දිව්‍යශ්‍රොත්‍රඇත්තෝය යන බුද්ධශ්‍රාවකවූ බොහෝ
15 රහත්හු ඇත්තාහ" යි වදාළසේක. "කුමකින් වැඩිසේක්
දැ" යි විචාළේය. "දියෙන්හෝ ගොඩින්හෝ නොආම්හ" යි
16 වදාරණලද්දාවූ ඒ රජතෙමේ අහසින් වැඩියහයි දතේය.
මහපැණඇති ඒ මහාස්ථවිරතෙමේ රජහු නැණ විමසන
සේක් ඔහුගෙන් පැණ පිළිවිසිසේක. පුළුවුත් පුළුවුත් ඒ ඒ
17 පැණ රජතෙම විසදුයේය "මහරජානෙනි මේ රුක කිනම්
දැ" යි විචාළසේක. රජතෙමේ "මේ තුර අඹනමැ" යි කීය.

"මේහැර අඹරුකෙක් ඇද්ද" සි විචාළසේක. "බොහෝ අඹ
18 තුරු ඇත්තාහ" සි කීය. "මේ අඹතුරද ඒ අඹතුරුද හැර
වෙන තුරු ඇත්දැ" සි විචාළසේක. "වහන්ස බොහෝ
19 තුරු ඇත්තාහ ඒ තුරු අඹ නොවෙති" සි කීයේය. "ඒ අඹත්
නොඅඹත් හැර වෙනතුරු ඇද්ද" සි විචාළසේක. "ස්වාමිනි
20 මේ අඹරුකය" සි කීයේය, "නරේශ්වරය පණ්ඩිතයෙහි" සි
වදාළසේක. "මහරජ තොපගේ නෑයෝ ඇද්ද" සි විචාළ
21 සේක. "බොහෝදෙනෙක් ඇත්තාහ" සි කීයේය. "නො
නෑයෝත් ඇද්ද" සි විචාළසේක. "බොහෝ නොනෑයෝ ඇ
ත්තාහ" සි කීයේය. "ඒ නෑයනුත් නොනෑයනුත් හැර අනි
22 කෙකුත් ඇද්ද" සි විචාළසේක. "මමමය" සි කීයේය. "මහ
රජ මැනව තෙපි පණ්ඩිතැ" සි වදාළසේක. මහනුවනැති ස්ථ
විරතෙමේ රජු පණ්ඩිතැයි දැන රජහට චූළහත්ථිපදෞපම සූත්‍රය
23 වදාළසේක. දේසනා කෙළවර ඒතෙමේ සතළිස් දහසක්
ඒ මිනිසුන්හා සරණයෙහි පිහිටියේය.

24 ඒ දවස් සන්ධ්‍යාකාලයෙහි රජහට ආහාර එලවූහ. "දැන්
මුන්වහන්සේලා නොවළඳත්හ" සි දන්නාමවූත් රජතෙමේ
"විචාරන්ටම යුතෙත්ය" සි ඒ තෙරුන් බතින් විචාළේය.
25 "දැන් නොවළඳම්හ" සි වදාළකල්හි ඒ තෙමේ වළඳන කාල
26 ය විචාළේය. කාලය වදාළකල්හි "නුවරට යම්හ" සි මෙසේ
27 කීය "මහරජ තෙපි යා, අපි මෙහි වසන්නාමෝය" සි වදාළ
සේක. "එසේකල කුමාරතෙමේ අපසමග යේව" සි කීයේය.
28 "මහරජනෙනි මේතෙමේ වූකලී පැමිනි ඵල ඇතෙත්ය,
දන්නාලද බුදුසසුන් ඇත්තේය. පැවිදි අපෙක්ෂා කරමින්
අපවෙත වසයි දැන් මොහු පැවිදිකරන්නෙමු මහරජනෙ
29 නි තෙපි යව" සි වදාළසේක. "පෙරවරු රථය එවන්නෙම්
නුඹවහන්සේලා එහි සිටියෝ පුරයට වඩිත්ව" සි කියා
30 තෙරුන් වැඳ හඬුනම් කුමරහු ඉවතකැඳවා තෙරුන්ගේ
අධිකාරය විචාළේය. ඒ කුමර රජහට සියල්ලැකීය. තෙරුන්
ඇඳින ඉතා සතුටුවූ ඒතෙමේ "මාගේ ලාභය" යි සිතුයේය.

31 හඬුනම් කුමරහු ගිහිබැවින් අපගත ශඞ්කාඇති නරේන්ද්‍ර
යා මිනිස්බව දත්තේය. ඒ ස්ථවිර තෙමේ "මොහු පැවිදි
32 කරන්නෙමු" යයි එකෙණෙහිම ග්‍රාමසීමාවෙහිදී හඬුකනම්
33 කුමාරයාගේ පැවිදුත් උපසම්පදාවත් කළසේක. ඒ ක්‍ෂණ
යෙහිදීම උන්වහන්සේත් රහත් බවට පැමිනිසේක. ඉක්
34 බිති මහාස්ථවිරතෙමේ ඒ සුමණ සාමණේරයන්දැට "ධර්ම
ශ්‍රවණ කාලය ඝොෂාකරව" යි වදාළසේක. "ස්වාමීනි අස්
වන්නාවූ මම කෙතෙක්තැන් හඬගාලන්නෙම්දැ" යි විචාළ

35 සේක. තෙරුන්විසින් "මුළු තාම්‍රපර්ණී දිවයිනැ"යි වදාළ කල අස්වන සාමණෙරයන්ද ඍද්ධිබලයෙන් මුළුලක්දිව
36 දැනම්කල් ඝොෂාකෙළේය. ඒ රජතෙමේ නාගචතුෂ්ක නම් ගල්කෙම්පස හිඳගෙණ බත් අනුභව කෙරෙමින් ඒ ශබ්දය
37 අසා ඇමැතියන් යැවූයේය. ඔහුගොස් "උපද්‍රවයෙක් ඇද්ද" යි කීහ. "උපද්‍රවයෙක් නැතෙත්ය. සම්බුඩ වචන ශ්‍රව
38 ණයට කාලය ඝොෂාකරණ ලදැ" යි වදාළසේක. සාමණෙර
39 යන්ගේ හඬඅසා භූමිනිශ්‍රිත දෙවියෝ ඝොෂාකළහ. පිළිවෙළින් ඒ ශබ්දය බඹලොවට නැංගේය. ඒ ඝොෂාවෙන් දෙවියන්ගේ මහාසමාගමය විය. ස්ථවිරතෙමේ ඒ සමාගම
40 යෙහි සමචිත්ත සූත්‍රය දේසනාකළසේක. අසංඛ්‍ය ගණන්
41 දේවතාවුන්ට ධර්මාභිසමයවී. බොහෝ නාගසුපර්ණාදීහු සරණයෙහි පිහිටියෝයි. සැරියුත් තෙරුන් විසින් මේ සූත්‍ර දෙසනකල යම්සේ විනම් එසේම මහෙන්ද්‍ර ස්ථවිරයන් දෙසනකලත් දිව්‍යසමාගමය වූයේය.

42 රජතෙමේ පසුවදා උදය රථය එවූයේය. ඒ රියැදුරුතෙමේ ගියේ "රථයට නැංග මැනව නුවරට යමුය" යි උන්
43 වහන්සේලාට කීයේය. "රථයට නොනැගෙමහ තෙපි යව තට පසුව එනනමෝය" යි මෙසේ වදුරා යහපත් කල්පනා
44 ඇති ඒ මහාඍද්ධිඇති තෙරුන්වහන්සේලා රියැදුරා යවා, අහසට නැගී නුවරින් නැගෙණහිර පළමු සැතැන් වැඩිසේ
45 ක්ලාය. තෙරුන් විසින් පළමුවෙන් බස්නාලදතැන කළ සෑය එහෙයින් පඨමකචෙතියයි මෙසේ අදවනතුරුත් කිය
46 නුලැබේ. යම් හෙයකින් සියලු අන්තඃ පුරස්ත්‍රීහු රජහුඅතින් තෙරුන් ගුණ අසා තෙරුන් දක්නට කැමැතිවූද එහෙයින්
47 මිහිපල්තෙමේ රජවසතුවතුළම රම්‍යවූ මණ්ඩපයක් කරවී. සුදුවූ වස්ත්‍රයෙන් හා මලින් වසනලද්දේවී. එසේම අලඞ්කා
48 ර කෙළේය. තෙරුන්වෙතදී උස්අස්නෙන් තොරබැව් ඇසූ
49 බැවින් ස්ථවිරතෙමේ උස්අස්නෙහි හිඳිනේහෝ නොවේ දෝයි ශඞ්කාඇතිවී. ඒ අතර රථාචාරියා එහි සිටිසෘවූ සිවුරු පෙරවනනාවූ ඒ තෙරුන් දැක ඉතා විස්මිත සිත් ඇත්තේ
50 ගොස් රජහට දැන්විය. රජතෙමේ සියල්ල අසා "පුටුහි හිඳීම නොකරනනාහ" යි නිශ්චිතවූයේ "ඉතා මනාකොට බුම
51 තුරුණු පණවව්" යයි කියා පෙරගමන්කොට සතසා තෙ
52 රුන් වැඳ මහම්හිඳු තෙරුන්ගේ අතින් පාත්‍රය ගෙණ සත්කාර පූජ කෙරෙමින් පුරයට තෙරහු ප්‍රවේශකෙළේයි.

53 නිමිත්ත ශාස්ත්‍ර දනෙනෝ මෙසේ අසුන් පැණෙව්වා දැක "උන්වහන්සේලා විසින් පොළෝතොමෝ ගන්නා ලද්දීය.

54 මේ දිවිහි ඊශ්වර වන්නාහ" යි කීවුය. නරේන්ද්‍රතෙම ඒ තෙ
රුන් පුදමින් අන්තඃ පුරයට වැඩමවීය. ඒ තෙරුන්වහන්
සේලා එහි සුදුසු පරිද්දෙන් පිළී අතුළ අසුන්හි හිඳගත්
55 තෝය. නරේන්ද්‍රතෙමේ ඒ තෙරුන් කැඳ අවුළු හා භොජන
යෙන් සන්තර්පණය කෙළේය. බත්කිස නිම්කල්හි තෙමේ
56 වෙත හිඳගෙණ මහානාග නම් මල්සුවරජහුගේ මෙහෙ
සීවූ රජගෙහිම වසන අනුළා නම් බිසව කැඳවීය. ඒ අනු
57 ළා දේවිතොමෝ පන්සියයක් ස්ත්‍රීන්හා අවුදින් තෙරුන්
58 වැඳ පුදා එකත්පසෙක ඉඳගත්තාය. ස්ථවිරතෙමේ ප්‍රේවත්
විමන්වත් හා සච්චසංයුක්තය දෙසූසේක. ඒ ස්ත්‍රීහු ප්‍රථම
59 ඵලයට පැමිනියෝය. නුවර වැසෝ ඊයේ දුටු මිනිසුන්
අතින් බොහෝවූ තෙරගුණ අසා තෙරුන් දක්නා කැමැත්
60 තාහු රැස්වගෙණ රජගෙයි දොර මහත්අරගල කළෝය.
රජතෙමේ ඒ අසා විචාරා දැන ඔවුන්ට හිතකැමැතෙහි
"සියල්ලන්ට මෙහි සම්බාධය, මගුලැත්හල ශුඬකරව්
61 නුවරවැසෝ එහිදී මේ තෙරුන් දක්නාහ" යි කීයේය. එ
62 කෙණෙහි ඒ ඇත්හල ශුඬකරවා වියන් ආදියෙන් අල
63 ඬකාර කොට සුදුසු පරිද්දෙන් සෙනසුන් පැණවූහ, ඒ
මහාස්ථවිරතෙමේ තෙරුන් සමග එහි පැමින වැඩහිඳ
64 මහාකාළික වූසේක් දේවදූත සූත වදාළසේක. රැස්වූ නුවරු
ඒ අසා පහන්වූය. උන්අතුරෙන් දහසක් ප්‍රාණීහු සෝ
වාන් ඵලයට පැමිනියෝය.

65 ලඬකාව පිහිටුවීමෙහි හෝ අධිකකොට තැබීමෙහි ශා
ස්තෘ කෙනෙකුන්ගේ ආකාරඇති ලක්දිවට පහනක් බඳුවූ
ඒ මහාස්ථවිරතෙමේ මෙසේ දෙතැනෙක්හිදී හෙළදිව්
බසින් දහම් වදාරා ලක්දිව්වැසි ජනයා කෙරෙහි සඬර්ම
යාගේ බැසගැන්ම කරවූසේක හෙවත් සඬර්මයෙහි ජනයා
පිහිටවූසේක.

මෙසේ සුදිජනයා පහන්සංවෙග පිණිස කළ මහවංශ
නගරප්‍රවෙසන නම් තුදුස්වන අදියර නිමි.

---

# 15 වෙනි පරිච්ඡේදය.

1 එහි පැමිනි ආදර සහිතිවූ ඒ මනුෂ්‍යයෝ ඇත්හලද අන
2 වකාශයයි නුවර දකුණු දොරින් පිට ශාන්ද්‍රච්ඡායාඇති නිල්
කුශතණින් යුක්තවූ සිහිල් මනරම්වූ නන්දන නම් රජඋයන

3 නෙහි තෙරුන්වහන්සේලාට හසුන් පැණවූහ. ස්ථවිර තෙම (නුවර) දකුණු දොරින් නික්ම එහිද වැඩහුන්සේක,
4 ශ්‍රෙෂ්ඨ කුලවත්වූ බොහෝ ස්ත්‍රීහුද එහි අවුත් උයන පූරව මින් තෙරුන්වහන්සේට නුදුරුව උන්හ..........ස්ථවිරතෙම ඔවුන්ට බාලපණ්ඩිත නම් සූත්‍රාන්තධර්මය දෙසනා කළ
5 සේක..........ඔවුන් අතුරෙන් දහසක් ස්ත්‍රීහු පළමුවෙනිවූ සොවාන් පලයට පැමිනියහ. මෙසේ ඒ නන්දන නම් උය නෙහිම සවස්වේලාව වූයේය.
6 ඉක්බිත්තෙන් ස්ථවිරයෝතුමූ "එම පර්වතයට යම්හ" යි නික්මුනාහ. (මිනුෂ්‍යයෝ ඒබැව්) මහරජනන්ට දන්වූහ.
7 රජතෙමේ වහා එතන්හි එළඹියේය. එළඹසිට "දැන් සවස් විය, පර්වතයද දුරුය මේ නන්දන වනයෙහිම විසීම එාසු
8 ය" යි ස්ථවිරයන්වහන්සේට සැලකෙළේය. "පූරයට අතිශ යින් ආසන්න බැවින් නොසරුප්ය" යි වදාළකල්හි "මහ
9 මෙවුනා උයන ඉතා නුදුරු නොලංතැන සිත්කලුදඡා යොදක සමන්විතදවේ එහි විසීම රුච්වේවා වහන්ස නැව තුන මැනවැ" යි කීකල්හි ස්ථවිරතෙම එහි නැවතිසේක.
10 ඒ නැවැතිතැන තොළොම්හොය සමීපයෙහි කරණලද
11 සෑය නිවත්තචෙතියසි කියනුලැබේ. රජතෙමේම නන්දන නම්වූ උයනින් නික්ම දකුණු පසින් මහමෙවුනා උයන
12 පැදුම්දොරට ස්ථවිරයන් පැමිනවූයේය. එහි රම්‍යවූ රාජ මන්දිරයෙහි යහපත්වූ ඇඳපුටු මනාකොට අතුරුවා "මෙහි සුවසේ වාසයකරණ සේක්ව" යි කියා නරේන්ද්‍රතෙම ස්ථවිර
13 යන් වැඳ ඇමැතියන් විසින් පිරිවරණලද්දේ පූරයට ප්‍රවිෂ්ට
14 වූයේය..........ඒ ස්ථවිරවරයෝතුමූ ඒ රෑය එහි විසූසේක, රජ තෙම උදෑසනම මල්ගෙන්වාගෙණ ස්ථවිරයන්වහන්සේලා
15 කරා එළඹ වැඳ මලින්ද පූදා "කිමෙක සුවසේ වාසයවිද උයන යතීන්ට එාසුදැ" යි විචාළේය "මහරජ සුවසේ වාසය
16 වූයේය, උයන තපස්වීන්ට එාසුවෙ" යි (වදාළසේක). ඒ
17 නරේන්ද්‍රතෙම "වහන්ස ආරාමය සඞ්ඝයාට කැපදැ" යි විචාළේය. කැප නොකැප දනිමෙහි දක්‍ෂවූ ස්ථවිරතෙම 'කැපය' යි වදාරා වෙළුවනාරාමය පිළිගැණීම වදාළසේ
18 ක, ඒ අසා මහරජතෙම ඉතා සතුටුවූයේය. ස්ථවිරයන් වඳනා පිණිස ආවාවූ අනුළා දේවිතොමෝ පන්සියයක්
19 ස්ත්‍රීන්හා සමග ශකෘදාගාමි ඵලයට පත්විය. ඒ පන්සිය යක් ස්ත්‍රීන් සහිතවූ අනුළාදේවි තොමෝද "දේවයන්වහ න්ස පැවිදිවෙම්හ" යි කීවාය, රජතෙමේද "මොවුන් පැවි දිකරණ සේක්ව" යි ස්ථවිරයන්වහන්සේට සැලකෙළේය.

20 ස්ථවිරතෙම "මහරජානෙනි අපට ස්ත්‍රීන් පැවිදිකිරීම
කැපනැත්තේය, මාගේ නැගනිවූ සඞ්ඝමිත්‍රා නමින් ප්‍රසිද්ධවූ
බහුශ්‍රැතවූ මෙහෙණින්නක් තොමෝ පැළලුප් නුවර ඇත්
21 තිස. නරේන්‍ද්‍රය ඕතොමෝ ශ්‍රමණේන්‍ද්‍රවූ සර්වඥයන්වහන්
සේගේ මහාබොධි වෘක්‍ෂරාජයාගෙන් දක්‍ෂිණ ශාඛාවද
22 එසේම උත්තමවූ භික්‍ෂුණින්ද ගෙණ වඩනාසේක්වා යි අප
23 පියමහරජුකරා හසුන් යවව ඒ ස්ථවිරීතොමෝ මෙහි අවුත්
24 මේ ස්ත්‍රීන් පැවිදිකරන්නීය" යි රජහට වදාළසේක. රජතෙ
ම යහපතැයි කියා උතුම්වූ කෙණ්ඩිය ගෙණ "මේ මහමෙව්
25 නා උයන සඟහට දෙමි" කියා මිහිඳු මහතෙරුන්වහන්
සේගේ අත්ලෙහි දක්‍ෂිණෝදකය වැගිරවූයේය. ජලය මිහි
26 පිට වැටුනකල්හි මහපොළෝතොමෝ කම්පිතවිය. "තුමක්
හෙයින් පෘථිවීතොමෝ කම්පා වන්නීද" යි මිහිපල්තෙම ඒ
27 තෙරුන්වහන්සේ විචාළේය, ඒ ස්ථවිරතෙමේ "ලඞ්කාද්වීප
යෙහි (බුදු) සස්න පිහිටි බැවිනැ" යි වදාළසේක. ජාතිසම්ප
න්නවූ රජතෙම ස්ථවිරයන්වයන්සේට දෑසමන්මල් පිළි
28 ගැන්වූයේය, ස්ථවිරතෙම රජගෙට අතුණුපස වැඩසිටිසේක්
මල්මිටු අටක් හිඹුල්රුක්මුල ඉසිසේක. එහිදු පො
29 ළොව කම්පිතවිය, රජහු විසින් විචාරනුලත්සේක් "නරේ
න්‍ද්‍රය (කකුසන්ධාදී) තුන්බුදුන් කාලයෙහිද මෙහි සඞ්ඝ
කම්මප්‍රණීස මාලක සීමාවිය, මේ කාලයෙහිදු වන්නීය" යි
30 රජහට කරුණ වදාළසේක. ස්ථවිරතෙම රජගෙට උතුරු
දෙසින් මනොඥවූ පොකුණක්කරා වැඩිසේක්. එපමණම
මල් එහිද වැගිරවූසේක, ඒ මල් ඉසීමෙහිදු පොළොව කම්පි
31 තවිය, විචාරණලදුවූ ස්ථවිරතෙම "මහරජානෙනි මේ
පොකුණ (සඞ්ඝයාට) ගිනිහල්පොකුණ වන්නීය" යි ඊට
කරුණ වදාළසේක.

32 (මහාමහෙන්ද්‍ර නම්වූ) ස්වාමිතෙම එම රාජමන්දිරයාගේ
33 දොරකොටුවට වැඩ එ පමණම මලින් ඒ ස්ථානය පිදූසේක.
එහිදු පොළොව කම්පිතවිය, අතිශයින් රොමොද්ගමයෙන්
යුක්තවූ ඒ රජතෙම ඒ කාරණය ස්ථවිරයන් වහන්සේ
34 විචාළේය. ස්ථවිරතෙම "මහීපාලය මේ කල්පයෙහි තුන්
බුදුවරයන්ගේ බොධි වෘක්‍ෂයන්ගෙන් දක්‍ෂිණශාඛාවන්
ගෙණවුත් මෙහි රොපණය කරණලදහ, මහීපාලය අප
35 තථාගතයන් වහන්සේගේ බොධිවෘක්‍ෂයාගේ දක්‍ෂිණ ශාඛා
තොමෝද මේ ස්ථානයෙහිම පිහිටන්නීය" යි උහුට කරුණ
36 වදාළසේක. මහාස්ථවිරතෙම එතැනින් මහාමුචල නම්
වෘක්‍ෂයමූලට වැඩිසේක් එ පමණම මල් ඒ ස්ථානසෙහි වැගි

රවූසේක, එහිදු පොළොව කම්පිතවිය, (රජහු විසින්) විචා
37 රණලද ස්ථවිරතෙම "භූමිපාලය මෙහි සඞ්ඝයාගේ පො
හෝගෙය වන්නේය" යි ඔහුට කරුණු වදාළසේක. මහරජ
38 තෙම එතැනින් පැණඹමලුවට සම්ප්‍රාප්තවූයේය, යහපත්
සේ ඉදිගියාවූ වර්ණ ගන්ධ රස සම්පන්නවූ මහත්වූ අඹපල
39 යක්ද උයන්පල්තෙමේ මහරජහට එලවූයේය, ඉතා සිත්
කලුවූ ඒ අඹපලය නරේන්ද්‍රතෙම ස්ථවිරයන්වහන්සේට
40 එලවූයේය. ජනසමූහයා කෙරෙහි වැඩකැමැතිවූ ස්ථවිර
යන්වහන්සේ වැඩහිඳිනු කැමැති ආකාරයක් (රජහට) දැක්
වූසේක. නරේන්ද්‍රතෙම එහිම උතුම් ඇතිරිල්ලක් ඇතිරවූ
41 යේය එහි වැඩහුන් තෙරුන්වහන්සේට නරේන්ද්‍රතෙම
42 අඹය පිළිගැන්වූයේය, ස්ථවිරයන්වහන්සේ එය වළඳා අඹ
බිජුවටය රොපණය කරණු පිණිස මහරජානන්ට දුන්සේක.
නරේන්ද්‍රතෙමේම ඒ අඹබිජුවටය එහි රොපණය කෙළේය.
43 ස්ථවිරතෙම එය පැලවී වැඩෙනු පිණිස ඒ මතුයෙහි හස්ත
යන් ධොවනය කළසේක. එකෙණෙහිම ඒ ආම්‍රබීජයෙන්
අඞ්කුරයක් නැගී ක්‍රමයෙන් (වැඩී) පත්‍ර ඵලධාරීවූ ඉතා
44 මහත් රුකෙක් වූයේය. රජු සහිතවූ ඒ පිරිස්තොමෝ ඒ
පෙළහර දැක හටගත් රොමොද්ගම ඇත්තී ස්ථවිරයන්
45 වඳිමින් සිටියාය. ස්ථවිරතෙම එකල්හි මල් අටම්ටක් එහි
විසිරවූසේක. එහිදු පොළොව කම්පිතවිය (රජහු විසින්)
46 විචාරණලද ස්ථවිරතෙම "නරේශ්වරයානෙනි මේ ස්ථානය
සඞ්ඝයාට උපන් නොයෙක් ලාභයන් සමගිව බෙදන ස්ථා
නය වන්නේය" යි ඒ රජහට කාරණය වදාළසේක.
47 එතැනින් චතුශ්ශාලාව පිහිටන තැනට වැඩ එපමණම
මල් එහි විසිරවූසේක. එහිදු පොළොව කම්පිත විය. නරේ
48 න්ද්‍රතෙම ඒ කම්පාවීමේ කාරණය විචාළේය, ස්ථවිරයන්
වහන්සේ "මහරජානෙනි පූර්වවූ (කකුසන්ධාදී) තුන් බුදුවර
49 යන් (මේ) උයන පිළිගත්කල්හි ලක්දිව්වැස්සන් විසින්
සියලු දිගින් ගෙණවාවූ දානවස්තූන් මෙහි තබා සඞ්ඝයා
50 සහිතවූ තුන්බුදුවරයන් වැළඳවූහ, මේ කාලයෙහි වනාහි
මෙහිම චතුශ්ශාලාව වන්නීය, නරශ්‍රෙෂ්ඨය මෙහි සඞ්ඝ
යාගේ භක්තභොජනස්ථානය වන්නේය" යි කාරණය ප්‍රකාශ
කළසේක.
51 කාරණාකාරණයන් දැනීමෙහි දක්ෂවූ ලක්දිව් බබුලුවන්
නාවූ මහින්ද්‍ර නම් මහාස්ථවිරතෙම එතැනින් මහසෑය පිහි
52 ටියයුතු තැනට වැඩිසේක, එකල්හි රජඋයනට ඇතුළත්වූ
තන්හි කකුධ නම්වූ කුඩාවැවක් විය, ඒ වැව මතුයෙහි දිය

53 කෙළවර සෑයක් පිහිටුවීමට යොග්‍යවූ උස්තැනක්විය, ස්ථ
54 විරයන්වහන්සේ එහි වැඩියකල්හි රජහට සපුමල් මුළු
අටක් ගෙණවාහූය. නරෙන්‍ද්‍රතෙම ඒ සපුමල් ස්ථවිරයන්
වහන්සේකරා එලවූයේය ස්ථවිරයන්වහන්සේ ඒ සපු
55 මලින් ඒ උස්වූ ස්ථානය පිදූසේක. එහිදු පොළොව කම්පිත
විය, රජතෙම ඒ කම්පාවීමේ කාරණය විචාළේය, ස්ථවිර
56 තෙම පිළිවෙළින් ඒ කම්පාවේ කාරණය වදාළසේක. "මහ
රජ්ජතෙනි මේ ස්ථානය සිවුබුදුවරයන් විසින් සෙවිනා ලද්
දේය, සත්ත්වයන්ට හිතපිණිසද සැපපිණිසද සෑයකට සුදුසු
57 වනොත්ය, මේ කල්පයෙහි පළමුවෙනුව සියලු ධර්මයන්
දත්තාවූ සියලු ලෝකයට අනුකම්පාකරවූ ශාස්තෘවූ කකුසඳ
58 නම් සර්වඥවරයෙක්වූසේක, (එකල) මේ මහමෙව්නා උය
59 න මහාතීර්ථ නම්විය, මින් පෙරදිග කොළොම් හොයෙන්
එතර අභය නම් පුරයෙක් විය, එහි අභය නම් රජෙක්විය,
60 එකල මේ දිවයින ඕජදීප නම් විය, (එකල්හි) රකුසන්
කරණකොටගෙණ මෙහි ජනයාහට හුණුලෙඩෙක් විය,
කකුසඳ නම්වූ සර්වඥතෙම ඒ උවදුර දැක එය නසා මේ
61 ද්වීපයෙහි සත්ත්වයන් හික්මීමද ශාසනයාගේ පැවැත්මද කර
ණු පිණිස කරුණාවේගයෙන් මෙහෙයතු ලත්සේක් සත
62 ළිස් දහසක් රහතුන් විසින් පිරිවරණලද්දේ අහසින් වැඩ
දෙවකූටනම් පර්වතයෙහි වැඩසිටිසේක. මහරජ්ජතෙනි
63 එකල්හි සර්වඥයන්වහන්සේගේ ආනුභාවයෙන් මේ මුළු
64 දිවයින්හි ජ්වරරොගය උපශාන්තවූයේය. නරෙශ්වරය
එහි වැඩසිටි මහාමුනිවූ සර්වඥතෙම "අද ඕජදීපයෙහි
65 සියලු මනුෂ්‍යයෝ මා දකිත්වා මාකරා එනු කැමැතිවූ සියලු
මනුෂ්‍යයෝ වහාම නිදුකින් එත්වා" යි අධිෂ්ඨාන කළ
සේක.

66 පර්වතය රැසින් බබුලුවනනාවූ සර්වඥයන්වහන්සේද රැ
සින්බබලනනාවූ පර්වතයද දැක රජතෙමේද නුවර වැසියෝ
67 ද වහා ලඟට පැමිනියෝය. දෙවියන්ට බිලිදෙන පිණිස
එහි ගියාවූ මනුෂ්‍යයෝද සඞ්ඝයා සහිතවූ ලොකස්වාමීන්ව
68 හන්සේ දෙවතායයි සිතූහ. අතිශයින් සතුටුවූ මහීශ්වරවූ ඒ
69 රජතෙම ඒ සර්වඥයන් මනාකොට වැඳ බතින් පවරා පුර
සමීපයට වඩාගෙණවුත්, සඞ්ඝයා සහිතවූ මුනීශ්වරයන්
70 වහන්සේගේ වැඩහිඳීමට යෝග්‍යවූ සිත්කලුවූ මේ ස්ථානය
අසම්බාධයයි සිතා මෙහි කරවනලද මනොඥවූ මණ්ඩප
යෙහි උතුම්වූ පයර්‍යඞ්කයන්හි සඞ්ඝයා සහිතවූ සම්බුදුන්
71 වැඩහිඳවූයේය. මෙහි වැඩහුනනාවූ සඞ්ඝයා සහිතවූ

ලොකනාථයන්වහන්සේ දක්නාවූද ලඞ්කාවීපයෙහි මනු
72 ෂ්‍යයෝ හාත්පසින් පඬුරුගෙණවෝය. ඒ නරෙන්ද්‍රතෙම
තමන් සතුවූද ඒ ඒ මිනිසුන් විසින් ගෙණෙනලද්දාවූද ඛාද්‍ය
භොජ්‍යයෙන් ඒ සඞ්ඝයා සහිතවූ ලොකස්වාමීන්වහන්සේ
73 සන්තර්පණය කෙළේය. මෙහිම පසු බත්කල්හි වැඩහුන්නා
වූ සර්වඥයන්වහන්සේට ඒ මහාතිත්ථනම්වූ උයන ඒ රජතෙ
74 ම උතුම්වූ දක්ෂිණකොට දුන්නේය, එකල අකාලපුෂ්ප
යෙන් අලඞ්කෘත මහාතිත්ථනම්වූ උයන සර්වඥයන්වහන්
සේ විසින් පිළිගත්කල්හි මහපොළව කම්පිතවිය. ඒ
75 සර්වඥතෙම මෙහිම වැඩහිඳ ධර්මදෙශනා කළසේක, සත
76 ළිස් දහසක් මනුෂ්‍යයෝ මාර්ගඵල ප්‍රාප්තවූහ. පස්මරුන්
දිනූ ඒ සර්වඥතෙම මහාතිත්ථ නම්වූ උයන්හි දිවා විහරණ
77 යකොට සවස්වේලෙහි බොධිය පිහිටන්ට යොග්‍යවූ පෘථිවි
ප්‍රදෙශයට වැඩ එහි වැඩහුන්සේක් සමාධියට සමවැද එයින්
78 නැගී "ලක්දිව් වැස්සන්ට වැඩපිණිස මාගේ මහරි බෝ
රුකින් දක්ෂිණ ශාඛාව රැගෙණ මෙහෙණිනාන් සහිතවූ
රූපනන්ද නම් මෙහෙණිතොමෝ ආගමනය කෙරේව" යි
79 සිතූසේක. මහරජනෙනි ඒ මහත්සෘද්ධිඇති රූපනන්ද නම්
තෙරණීතොමෝ උන්වහන්සේගේ ඒ සිත දැන ඊට අනතු
රුව එහි නරෙන්ද්‍රයානන් කැඳවාගෙණ ඒ බෝධිවෘක්ෂය
80 කරා එළඹ දක්ෂිණ ශාඛාවෙහි රත්සිරියෙළින් රෙඛාවක්
දෙවා (එතැනින්) සිදී රන් බඳනෙහි පිහිටියාවූ ඒ බෝධි
ශාඛාව සෘද්ධියෙන් ගෙණ පන්සියයක් මෙහෙණිනානන්
81 සහිතවූවා මෙහි ගෙණවූත් දෙවතාවුන් විසින් පිරිවරණ
ලද්දී රන්බඳන සහිතවූ ඒ බොධි ශාඛාව සර්වඥයන් දිගු
82 කළ දක්ෂිණ හස්තයෙහි තැබූවාය, තථාගතයන්වහන්සේ
ඒ බොධිය රැගෙණ පිහිටුවන පිණිස අභය නම් රජහට
83 දුන්සේක, පෘථිවීශ්වරතෙම මහාතිත්ථ නම්වූ උයනෙහි
ඒ බොධිය පිහිටවූයේය.

84 සම්‍යක් සම්බුද්ධවූ තථාගතයන්වහන්සේ එතැනින් වැඩ
85 මෙයින් උතුරුදෙස මනරම් මහරි මලුවෙහි වැඩහිඳ ජන
යාට ධර්මදෙශනාකළසේක, මහරජනෙනි එහි විසිදහසක්
86 ප්‍රාණීන්ට ධර්මාවබොධය වූයේය. ඒ සම්‍යක්සම්බුද්ධවූ සර්ව
ඥයන්වහන්සේ එතැනින්ද උතුරුදෙසට වැඩ එහි ථූපාරාම
චෛත්‍යය පිහිටන ස්ථානයට වැඩ සමාධිය අර්පණයකොට
87 වැඩහුන්සේක් එයින් නැගී පිරිසට ධර්මදෙසනා කළ
සේක. එහි වනාහි දසදහසක් ප්‍රාණීහු සම්ප්‍රාප්තවූ මාර්ග
88 ඵල ඇතිවූහ. පස්මරුන් දිනූ සර්වඥයන්වහන්සේ සව

ඛීය ධබරාව වඳිනා පිණිස මිනිසුන්වද පිරිවර සහිතවූ ඒ
89 මෙහෙණින්නමෙහි වස්වා මහාදෙවනම් ශ්‍රාවකයානන්ද
භික්‍ෂූන් දහසක් සමග මෙහි වස්වා එසින් පැදුම්දෙස
90 රුවන් මළුවෙහි වැඩසිටිසේක්ම ජනයාට මොනවට අනු
ශාසනාකොට සඞ්ඝයා සමග අහසට නැගී ජම්බුද්වීපයට
වැඩිසේක."

91 මේ කල්පයෙහි දෙවනුව (බුදුවූ) සියලු ලෝවැසියන්ට අනු
කම්පාකරවූ සියලු ධර්මයන් අවබෝධ කළාවූ ශාස්තෲවූ කො
92 ණාගමන නම් සර්වඥකෙනෙක් වූසේක, එකල්හි මේ මහ
මෙවුනා උයන මහානාම නම්විය, දක්‍ෂිණදිශාවෙහි වර්ධ
93 මාන නම් පුරයක්විය, එකල එහි සමිද්ධනම්වූ නරේන්ද්‍රයෙක්
වූයේය, එකල මේ ද්වීපයතොම වරදීපනම් විය. එකල්හි
94 මේ වරදීපයෙහි වර්‍ෂාහානියෙන්වූ උවදුරෙක්විය. කොණා
ගමන නම් සර්වඥයන්වහන්සේ ඒ උපද්‍රවය දැක ඒ උවදුර
95 නසා මේ ලක්දිව්හි ජනයන්ගේ හික්මීමද ශාසනයාගේ
පැවැත්මද කරණු පිණිස කරුණාබලයෙන් මෙහෙයනු
96 ලත්සේක් රහත්වූ තිස්දහසක් භික්‍ෂූන්වසින් පිරිවරණු ලත්
සේක් අහසින් වැඩ සුමනකූටනම් පර්වතයෙහි වැඩසිටි
97 සේක. සර්වඥයන්වහන්සේගේ ආනුභාවයෙන් ඒ වර්‍ෂා
හානිය ක්‍ෂයවීමට ගියාය, එකල්හි ශාසනාන්තර්ධානය දක්
98 වා යහපත් වර්‍ෂාවම විය. නරේන්ද්‍රයානෙනි එහි වැඩසිටි
මහාමුනිවූ මුනීන්ද්‍රයන්වහන්සේ "අද වරදීපයෙහි සියලු
මනුෂ්‍යයෝ මා දකිත්වා මාකරා එනුකැමැත්තාවූ සියලු මනු
99 ෂ්‍යයෝ නිදුකින් වහාම එත්වා"යි අධිෂ්ඨාන කළසේක, (පර්ව
100 තය රැසින්) බබුලුවනනාවූ ඒ මුනීන්ද්‍රයන්වහන්සේද බබ
ලනනාවූ පර්වතයද දැක රජතෙමේත් නුවර වැසියෝත්
වහා සමීපයට පැමිණියහ.

101 දේවතා බිලි දෙනපිණිස එහි ගියාවූ මනුෂ්‍යයෝද සඞ්ඝ
යා සහිතවූ සර්වඥයන්වහන්සේ දේවතාවෝයයි සිතූහ. අති
102 ශයෙන් සතුටුවූ පෘථිවීශ්වරවූ රජතෙම ඒ මුනීන්ද්‍රයන් වැඳ,
බතින් පවරා වර්ධමාන නම් පුරය සමීපයට වඩාගෙණ
103 වුත් මේ ස්ථානය සඞ්ඝයා සහිතවූ මුනීන්ද්‍රයන්ගේ වාසයට
යොග්‍යය සිත්කළුය අසම්බාධයයි සිතා, මෙහි කරවනලද
104 රම්‍යවූ මණ්ඩපයෙහි උතුම්වූ පර්‍ය්‍යඞ්කයන්හි සඞ්ඝයා සහි
තවූ ඒ සම්‍යක් සම්බුද්ධයන්වහන්සේ වැඩහිඳවූයේය. මෙහි
105 වැඩහුනනාවූද සඞ්ඝයා සහිතවූ ලෝකස්වාමීන්වහන්සේ
දක්නාවූ වරද්වීපයෙහි මනුෂ්‍යයෝ හාත්පසින් පඬුරු

106 ගෙණවෝය, ඒ නරෙන්‍ද්‍රතෙම තමන් සතුවූද ඒ ඒ මිනු
ෂ්‍යයන් විසින් ගෙණවාවූද බාද්‍ය භොජ්‍යයෙන් සඞ්ඝයා සහි
තවූ ලෝකස්වාමීන්වහන්සේ සන්තර්පණය කෙළේය. ඒ
107 නරෙන්‍ද්‍රතෙම භක්තයෙන් පසුකාලයෙහි මෙහිම වැඩහුන්
සර්ව්වඥයන්වහන්සේට මහානාම නම්වූ ඒ උයන වර
108 දක්ෂිණකොට දුනෙන්ය. එකල අකාලපුෂ්පයෙන් අලඞ්කෘ
තවූ මහානාම නම් උයන සර්ව්වඥයන්වහන්සේ විසින් පිළි
109 ගත්කල්හි මහපොළව කම්පිතවිය. ඒ සර්ව්වඥතෙම මෙහිම
වැඩහිඳ ධර්ම්මදෙශනාකළසේක, එකල්හි තිස්දහසක් මනු
110 ෂ්‍යයෝ මාර්ග්ගඵල ප්‍රාප්තවූහ. සර්ව්වඥයන්වහන්සේ මහානා
ම නම් උයන්හි දිවාවිහරණයකොට සවස්වේලෙහි පූර්ව්ව
මහාබොධිය පිහිටි භූමියට වැඩ එහි සමාධිය අර්පණය
111 කොට එයින් නැගිසේක්, සම්‍යක් සම්බුද්ධයන්වහන්සේ ලක්
දිව් වැසසන්ගේ වැඩපිණිස "මාගේ උදුම්බර බොධි වෘක්ෂ
112 යෙන් දක්ෂිණ ශාඛාව රැගෙන භික්ෂුණීන් සහිතවූ කණක
දත්තා නම් මෙහෙණී නොමෝ එවා" යි සිතූසේක. මහත්
113 ඍද්ධිඇත්තාවූ ඒ තෙරණීතොම ඊට අනතුරුව උන්වහන්
සේගේ ඒ සිත දැන එහි රජු කැඳවාගෙණ ඒ බොධිවෘක්ෂය
114 කරා එළඹ රත්සිරියෙලින් දක්ෂිණශාඛාවෙහි රෙඛා
දෙවා, මහරජානෙනි ඒතැනින් ජිනනව රත් බදනෙහි
115 පිහිටියාවූ ඒ ශාඛාබොධිය ඍද්ධියෙන් රැගෙණ මෙහෙ
ණීන් පන්සියයක් සහිතවූවා දෙවතාවන් විසින් පිරිවර
116 ණලද්දී මෙහි අවුත්, රත් බදන සහිතවූ ඒ ශාඛාබොධිය
සම්‍යක්සම්බුද්ධයන් විසින් දිගුකළ දක්ෂිණ හස්තයෙහි තැබූ
117 විය, තථාගතයන්වහන්සේ ඒ හැරගෙණ පිහිටුවන පිණිස
සම්ඛනම් රජහට දුන්සේක. ඒ මිහිපල්තෙම ඒ බොධිය
118 එහි මහානාම නම් උයනෙහි පිහිටවූයේය. සම්‍යක්සම්බුද්
ධයන්වහන්සේ එතැනින් නික්ම මහරිමලුවෙන් උතුරු නාග
මාලකයෙහි වැඩහුන්සේක් ජනයාට ධර්ම්මදෙශනා කළසේ
119 ක. පෘථිවිපාලය ඒ ධර්ම්මදෙශනාව ඇසීමෙන් එහි විසිදහ
120 සක් ප්‍රාණීන්ට ධර්ම්මාවබොධය වූයේය. පූරයෙන් උතුර පූර්ව්ව
බුද්ධවරයන් වැඩහුන් තැනට වැඩ එහි සමාධිය අර්පණය
කොට වැඩහුන්සේක් එයින් නැගී සර්ව්වඥයන්වහන්සේ
121 පිරිසට ධර්ම්මදෙශනාකළසේක, එහි වනාහි දසදහසක්
ප්‍රාණීහු මාර්ග්ගඵල ප්‍රාප්තවූහ. පස්මරුන් දිනූ ඒ සර්ව්වඥ
122 යන්වහන්සේ මනුෂ්‍යයන් විසින් වඳනා පිණිස කාය
බන්ධනධාතුව ප්‍රදානයකොට පිරිවර සහිතවූ ඒ මෙහෙ
123 ණීනන මෙහි වස්වා, භික්ෂූන් දහසක් සමග මහාසුම්ම

නම් ශ්‍රාවකයන්වහන්සේද මෙහි වස්වා රතනමාලකයෙන්
මෙපිට සුදර්ශන නම් මාලකයෙහි වැඩසිට ජනයාට අනු
124 ශාසනාකොට සඞ්ඝයා සමග අහසට නැගී ජම්බුද්වීපයට
වැඩිසේක.

125 මේ කල්පයෙහි තුන්වෙනුව (බුදුවූ) කාශ්‍යප ගොත්‍රඇති
සියලු ධර්මයන් අවබොධකළාවූ සියලු ලොවැසෑට අනු
126 කම්පාකාරවූ ශාස්තෘකෙනෙක් වූසේක. එකල්හි මහ
මෙවුනා උයන මහාසාගර නම්විය. පශ්චිම දිශාවෙහි වි
ශාලනම් පුරයක්විය, එකල එහි ජයන්ත නම් නරේන්ද්‍රයෙක්
127 වූයේය, එකල මේ ද්වීපයතෙම මණ්ඩද්වීප නම්විය. එකල්හි
128 ජයන්තනම් රජහුගේද රජහුමල් (මණ්ඩකුමර) හුගේද
භයජනකවූ සත්ත්වයන් පෙළනානාවූ යුද්ධයක් එළඹසිටියේය,
129 ඒ මහාකරුණා ඇති දශබලධාරීවූ කාශ්‍යප සර්වඥයන්
130 වහන්සේ, ඒ යුද්ධය නිසා සත්ත්වයන්ට වනනාවූ මහත් ව්‍යස
නය දැක, එය සංසිඳුවා මේ ද්වීපයෙහි සත්ත්වයන් හික්මීමහා
131 ශාසනයාගේ ප්‍රවෘත්තියද කරණු පිණිස කරුණා බලයෙන්
මෙහෙයනු ලත්සේක්, විසිදහසක් රහතුන් විසින් පිරිවර
ණලැබ අහසින් වැඩ සුභකූට නම් පර්වතයෙහි වැඩසිටි
132 සේක, නරේන්ද්‍රය එහි වැඩසිටි මහාමුනිවූ සර්වඥයන්වහන්
සේ, "අද මණ්ඩද්වීපයෙහි සියලු මනුෂ්‍යයෝ මා දකිත්වා
133 මාකරා එනුකැමැතිවූ සියලුම මනුෂ්‍යයෝ නිරායාසයෙන්
වහාම එත්ව" යි අධිෂ්ඨානකළසේක. පර්වතයෙහි රැස්විහි
134 දුවමින් බබලනනාවූ ඒ සර්වඥයන්වහන්සේද විරාජමානවූ
පර්වතයද දැක රජතෙමේද නුවරවැසියෝද වහා එළඹී
135 නහ, බොහෝ ජනයෝ තමතමන්ට පැමිණි ජයනිසා
දෙවියන්ට බිලිදෙන පිණිස ඒ පර්වතයට එළඹුනෝ
සඞ්ඝයා සහිතවූ සර්වඥයන්වහන්සේ දේවතායයි සිතූ
136 හ. රජතෙමේද ඒ කුමාරතෙමේද විස්මයට පැමිනියෝ
137 යුද්ධය හළහ. ඉතා සතුටුවූ ඒ පෘථිවීශ්වරවූ රජතෙම ඒ
මුනීන්ද්‍රයන් වැඳ බතින් පවරා නගරසමීපයට වඩාගෙණ
138 වුත් මේ ස්ථානය සඞ්ඝයා සහිතවූ මුනිරාජයන්වහන්
139 සේට වැඩහිඳිනට යොග්‍යය උතුම්ය සිත්කලුය සම්බාධ
රහිතයයි සිතා මෙහි කරවනලද රම්‍යවූ මණ්ඩපයෙහි උතු
140 ම්වූ පර්යඞ්කයන්හි සඞ්ඝයා සහිතවූ සර්වඥයන්වහන්සේ
වඩා හිඳුවූයේය.

141 මෙහි වැඩහුනනාවූද සඞ්ඝයා සහිතවූ ලොකස්වාමීන්
වහන්සේ දක්නාවූ ද්වීපයෙහි මනුෂ්‍යයෝ හාත්පසින් පඬු

රැගෙණවෝය, ඒ නරේන්ද්‍රතෙම තමන් සතුවූද ඒ ඒ ජන
යන් විසින් ගෙණනලද්දවූද ඛාද්‍ය භොජ්‍යයෙන් සඞ්ඝයා
142 සහිතවූ ලොකස්වාමීන් සන්තර්පණය කෙළේය. භක්තභො
ජනයට පසුවූ (පස්වරු) කාලයෙහි මෙහිම වැඩහුන්නාවූ
සර්ව්වඥයන්වහන්සේට ඒ නරේන්ද්‍රතෙම ඒ මහාසාගර නම්වූ
143 උතුම් උයන වර දක්ෂිණකොට ප්‍රදානය කෙළේය. අකාල
පුෂ්පයෙන් අලඞ්කෘතවූ මහාසාගරනම් උයන සර්ව්වඥයන්
144 වහන්සේ විසින් පිළිගත්කල්හි මහපොළව කම්පිතවිය, ඒ
සර්ව්වඥතෙම එහිම වැඩහිඳ ධර්ම්ම දෙශනා කළසේක, එකල්
145 හි විසිදහසක් මනුෂ්‍යයෝ මාර්ග්ගඵල ප්‍රාප්තවූහ. සර්ව්වඥයන්
වහන්සේ මහාසාගරනම් උයන්හි දිවාවිහරණයකොට
සවස්වේලෙහි පූර්ව්වබොධිවෘක්ෂයන් පිහිටි භූමියට වැඩ
146 එහි සමාධියට පැමින වැඩහුන්සේක් එයින් නැගිසේක.
සම්‍යක්සම්බුද්ධයන්වහන්සේ "දිව්වැසසත්ගේ වැඩ පිණිස
147 සුධර්ම්මානම් මෙහෙණීතොමෝ මාගේ න්‍යග්‍රොධ බොධි
වෘක්ෂයෙන් දක්ෂිණශාඛාව ගෙණ මෙහෙණින්නන් සහි
තව දන් ඒව"යි සිතූසේක. මහරජතෙනි ඊට අනතුරුව
148 මහත් සඞ්ඝඇත්තාවූ ඒ ස්ථවිරීතොමෝ උන්වහන්සේ
ගේ සිතිවිලි දැන එහි නරේන්ද්‍රයන් කැඳවාගෙණ ඒ බෝධි
149 වෘක්ෂයකරා එළඹ රත්සිරියෙලින් දක්ෂිණ ශාඛාවෙහි රේ
ඛාවක් දෙවා එතැනින් වෙන්ව රන්බඳනෙක පිහිටියාවූ
ඒ බොධිය සඞ්ඝයෙන් රැගෙණ පන්සියයක් මෙහෙණින්
150 නන් සහිතවූවා, මෙහි පමුනුවා දෙවතාවුන් විසින් පිරි
151 වරණලද්දී රන්බඳන සහිතවූ ඒ ශාඛාබොධිය සර්ව්වඥයන්
152 විසින් දිගුකළ දක්ෂිණ හස්තයෙහි තැබීය. තථාගතයන්
වහන්සේ එය පිළිගෙණ ජයන්ත රජහට එහි පිහිටුවන
153 පිණිස ප්‍රදානය කළසේක. ඒ රජතෙම ශාඛාබොධි වෘක්ෂය
ඒ මහාසාගර නම් උයනෙහි පිහිටවූයේය, සර්ව්වඥයන්
වහන්සේ එතැනින් වැඩ, නාගමාලකයෙන් උතුරෙහි
154 අසෝකමාලකයෙහි වැඩහිඳ ජනයාහට ධර්ම්මදෙශනා කළ
සේක. නරේන්ද්‍රයාතෙනි එහි ඒ ධර්ම්මදෙශනාව අසා සාර
155 දහසක් ප්‍රාණීන්ට ධර්ම්මාවබොධය වූයේය. නැවත සර්ව්වඥ
යන්වහන්සේ උතුරුදිග පූර්ව්ව බුදුවරයන් වැඩහුන්නාවූ
ස්ථානයට වැඩ එහි සමාධිය අර්පණය කොට වැඩහුන්සේක්
156 ඒ සමාධියෙන් නැගී පිරිසට ධර්ම්මදෙශනාකළසේක, එහි
157 වනාහි දසදහසක් ප්‍රාණීහු මාර්ග්ගඵලයන්ට සම්ප්‍රාප්තවූහ.
පස්මරුත් දිනූ ඒ සර්ව්වඥයන්වහන්සේ මිනිසුන් විසින් වඳි
158 නා පිණිස ජලසාටිකාධාතුව ප්‍රදානයකොට පිරිවරසහි

තවූ ඒ භික්ෂුණිය මෙහි වස්වා භික්ෂූන් දහසක් සහිතවූ
සබ්බනන්දි නම් ශ්‍රාවකයන්වහන්සේද මෙහි වස්වා නදී
159 යෙන් මෙතර සුදර්ශනනම් මාලකයෙන් (බැහැර) සොම
නස්ස නම් මාලකයෙහිදී ජනයාට මොනවට අනුශාසනා
කොට සඞ්ඝයාහා සමග අහසට නැගී දඹදිව් වැඩිසේක.

160 මේ කල්පයෙහි සතරවෙනුව සියලු ධර්මයන් අවබෝධ
කළාවූ සියලු ලොවට අනුකම්පාකාරවූ ශාස්තෲවූ ගෞතම
161 නම් සර්වඥයන්වහන්සේවූසේක, ඒ සර්වඥයන්වහන්සේ
ප්‍රථමකොට මේ ලක්දිව් වැඩ යක්ෂයන් දමනය කළසේක,
නැවත දෙවනුව වැඩ නාගයන් දමනය කළසේක, නැවත
162 තුන්වෙනුව පස්මරුන් දිනූ මුනීන්ද්‍රයන්වහන්සේ කැළණි
යෙහි මණිඅක්ඛික නම් නාගයා විසින් නිමන්ත්‍රණය කර
163 ණලද්දේ ආගමනයකොට එහි සඞ්ඝයා සමග ආහාර වළඳා
පූර්ව බෝධීන් පිහිටි ස්ථානයද මේ චෛත්‍යස්ථානයද පරි
164 භොග ධාතුස්ථානවූ (ථූපාරාමය පිහිටන) ස්ථානයද වැඩ
හිඳීමෙන් පරිභොගකොට, පූර්වවූ කාශ්‍යප සර්වඥයන්
වහන්සේ වැඩසිටි (සොමනස්සමාලක) නම් ස්ථානයෙන්
165 මෑතභාගයට වැඩ ලොකයට උදිපදිසේක් එකල ලඞ්කා
ද්වීපයෙහි මනුෂ්‍යයන් නැතිබැවින් ද්වීපයෙහි සිටියාවූ දේව
සමූහයාටද නාගයන්ටද මොනවට අනුශාසනාකොට සඞ්
ඝයා සහිතව අහසට නැගී දඹදිව් වැඩිසේක.

166 නරේන්ද්‍රයානෙනි මෙසේ මේ ස්ථානය සතර බුද්ධවරයන්
විසින් සෙවනාලද්දේය, මහරජානෙනි මේ ස්ථානයෙහි
167 අනාගතකාලයෙහි සර්වඥ ශාරීරික ධාතූන් සම්බන්ධවූ
ද්‍රොණයක් ධාතූන්ගේ නිධානවූ එක්සිය විසිරියන් උස්
168 ස්වර්ණමාලියයි ප්‍රසිද්ධවූ සෑයක් වන්නේය—පෘථිවීශ්වර
තෙම (ඒ සතූපය) "මමම කරවන්නෙමි" යි කීයේය, "පෘථිවි
169 පාලයෙනි මෙහි තොපට අන්‍යවූ බොහෝ කටයුතුවෙති. ඒ
කටයුතු කරව. තොපගේ මුනුබුරෙක් තෙම මේ සතූපය කර
වන්නේය. (එහි පිළිවෙළ මෙසේයි)—යුෂ්මත්හුගේ
170 සහෝදරවූ මහානාග නම් යුවරජහුගේ පුත්‍රවූ යටාලතිස්ස
නමින් ප්‍රකටවූ නරේන්ද්‍රයෙක්තෙම අනාගතයෙහි වන්නේ
171 ය. ඔහුගේ පුත්‍රවූ ගොඨාභය නම් නරේන්ද්‍රයෙක් වන්නේය.
ඒ රජහුගේ පුත්‍රවූ කාවන්තිස් නම් රජෙක් වන්නේය,
නරේන්ද්‍රය ඒ රජහු පුත්වූ දුටුගාමණී යන ශබ්දයෙන් ප්‍රකට
172 වූ අභයනම් මහරජෙක් වන්නේය, මහත්වූ තේජස් හා
සෘද්ධිවික්‍රමයෙන් යුක්තවූ ඒ මහරජතෙම මෙහි සතූපය කර
173 වන්නේය"යි ස්ථවිරයන්වහන්සේ වදාළසේක, ස්ථවිරයන්වහ

න්සේගේ වචනයෙන් මිහිපතිතෙම එපවත් ලියවා මෙහි ගල්මැඩික් එසවූයේය.

174 මහත් ප්‍රඥාහා මහත් ඍද්ධිඇත්තාවූ ඒ මහා මහෙන්ද්‍රනම් ස්ථවිරයන්වහන්සේ මහමෙවුනා උයනින් සිත්කළුවූ තිස්සා

175 රාමය පිළිගත්සේක. කම්පාරහිතවූ ස්ථවිරතෙම අටතැන කදී පොළව කම්පිත කරවා සඳුරහා සමානවූ නුවරට පිඬු

176 පිණිස ප්‍රවිෂ්ටව, රජගෙයි භක්තකෘත්‍යය කොට මන්දිරයෙන් නික්ම නඳුන් වනයෙහි වැඩහිඳ එහිදී අග්ගික්ඛන්ධොපම

177 නම්වූ සූත්‍රය ජනයාට දෙශනාකොට, එහිදී මිනිසුන් දහසක් මාර්ගඵලප්‍රාප්තකරවා මහමෙවුනා වෙනෙහි වැඩවිසූ සේක.

178 ස්ථවිරයන්වහන්සේ තුන්වෙනි දවස්හි රජගෙයි වළඳා නඳුන්වෙනෙහි වැඩහිඳ ආශීර්විෂොපම සූත්‍රය දෙශනාකළ

179 සේක. මහාස්ථවිරයන්වහන්සේ දහසක් පුරුෂයන් මාර්ගඵලාවබොධයට පමුනුවා එතැනින් තිස්සාරාමයට (වැඩිසේ

180 ක) අසනලද දෙශනාඇති ඒ රජතෙමේද (පැමින) තෙරුන්වහන්සේ සමීපයෙහි හිඳ “වහන්ස බුද්ධශාසනය (මෙ

181 හි) පිහිටියේදෝහෝ” යි විචාළේය. “නරෙන්ද්‍රය තවම නොපිහිටියේය, ජනාධිපතිය උපොසථාදි කර්ම පිණිස බුද්ධාඥාවෙන් මෙහි සීමාවක් බැන්දකල්හි ශාසනය පිහිටනෙන්

182 ය” යි මහාස්ථවිරයන්වහන්සේ වදාළසේක, රජතෙම උන්වහන්සේට මේ වචනය සැලකෙළේය. “ක්ෂාන්තිධරයන්වහන්ස මම සර්වඥයන්වහන්සේගේ ආඥාව ඇතුළත

183 වාසය කරනෙනම්, එහෙයින් පුරය ඇතුළත්කොට මහා සීමාව බඳිනාසේක්වා” යි සැලකෙළේය. ස්ථවිරයන්වහන්

184 සේ ඒ රජහට “පෘථිවීශ්වරය එසේ කල්හි යුෂ්මත් තෙමේ සීමාව යන තැන් දනුව අපි එය බඳුම්හ” යි වදාළසේක. පෘථිවීශ්වරතෙම මැනවයි කියා නඳුන් වනයෙන් නික්

185 මෙන දෙවෙන්ද්‍රයාමෙන් රම්‍යවූ මහමෙවුනා උයනෙන් නික්ම සවකීයවූ මන්දිරයට ප්‍රවිෂ්ටවූයේය. ස්ථවිරයන්වහන්

186 සේ සතරවෙනි දවස්හි රජගෙහි වළඳා නඳුන් වෙනෙහි වැඩහිඳ අනමතග්ගිය නම් සංයුක්තය දෙශනාකළසේක.

187 ඒ මහාස්ථවිරයන්වහන්සේ එහිදී දහසක් පුරුෂයන්ට අමෘතපානය පොවා මහාමෙඝවනාරාමයට එළඹිසේක. උදය

188 බෙර හසුරුවා පුරවරයද විහාරයට යන මාර්ගයද හාත්පසින් විහාරයද සරසවා ඒ නරෙන්ද්‍රතෙම රථයෙහි සිටියේ

189 සර්වාලඞ්කාරයෙන් අලඞ්කෘතවූයේ ඇමැතියන් සහිතව අන්තඃපුරවාසීන්හා රථ බලවාහන සහිතවූයේ මහපිරි

වරින් සචතීයාරාමයකරා පැමිනියේය. එහි වඥනාවට
190 යොග්‍යවූ ස්ථවිරයන්කරා එලඹ වැඳ ස්ථවිරයන්හා සමග
උඹුගඟ තොටට ගොස් රන්නගුලක් ගෙණ එතැන් පටන්
191 සාමින් ගියේය, මහාපදුමය, කුඤ්ජරය යන නම් ඇත්තාවූ
අතිශයින් ශොභනවූ ඇත්තුදෙදෙන ස්වර්ණමයවූ නඟු
192 ලෙහි යොදනලද්දුහ. පළමුවෙනිවූ කුන්තමාලකයෙහි
193 (සිටියේ) සිවුරඟ මහසෙනග ඇත්තාවූ සතුරු දමනයකළ
194 මිහිපනිවූ නරෙන්ද්‍රතෙම ස්ථවිරයන් සමගවූයේ මොනවට
සරසනලද්දාවූ පුන්කලස, නොයෙක් වර්ණඇත්තාවූ කො
ඩිය, යහපත්වූ සඳුන්සුණුයුත් තලිය, රන් රිදී දඬුඇති
195 කැටපත්ය, මලින් බරවූ සුමුගුය, මල්ඇගෑය, තොරන් කෙ
හෙලි ආදියද ගත් අත්ඇති අඟනන් විසින් පිරිවරණ
196 ලද්දේ නොයෙක් තූර්‍ය්‍යයෙන් ඝොෂණය කරණලද්දේ සේ
නාසමූහයා විසින් පිරිවරණලද්දේ ස්තුතිමඞ්ගලගීතයෙන්
197 සිවුදිඟුත් පූරවපොන් සාධුකාර නාදයෙන්හා පිළිහිස සිසෑ
රුම් සියගණනින්ද මහත්වූ උත්සව පූජායෙන්ද යුක්තවූයේ
198 නගුල රැගෙන සීව්ටුදක්වා සාමින් ගියේය. විහාරයහා
නගරයද ප්‍රදක්ෂිණකරනොපා ගංතොටට පැමිනා සීමාව
199 යනතැන් සමාපතකෙළේය. එහි සීමාතොමෝ කවර නිමි
ත්තකින් ගියාදැයි “සීමාව පැමිනිතැන් (දැනගණු) කැමැ
200 තෙත්තනි ඒ මෙසේ අවබොධ කරව්” (කොළොම් හොය)
පහන්තොට පහණෙහි කුඩාවලටද එතැනින් කුම්බලනම්
201 වළ අගටද එතැනින් මහදූවටද ගියාය. එතැනින් කුඹුක්
පෙලට ගියේ, එයින් මහම්ලුවට ගියේය, එයින් කුඳුම්රුක
වද එතැනින් මුරුතපොකුණටද ගියේ විජයාරාමනම්
202 උයනෙහි උතුරු දොරකොටුවට ගියේය, ගජකුඹුනම් ගල
වද, තුසවැටිය මැදින් අබාඋයනෙහි කොක්ගලටද (ලගා
203 ස්) මහසොහොන මැදට ගියේය, දිගුපහනට ගොස් කු
මීභාරදෙවයාගේ බිඩහැලට වමින් නුගමලුවට ගොස් හිය
204 ගල සමීපයෙහි ගිනිකොණ දියවස්බමුණගේ දෙවාලය
වද, එතැනින් තෙලුම්පෙලට ගියේ, එතැනින් තාලචතු
205 ෂ්කයට ගියේය, එතැනින් අස්මඩුලුලට වමින් සසවානයට
206 ගියේය, එතැනින් බොරළුතොටටගියේ ඒතැනින් මතෙත
හි නදියට ගියේය, පළමු සෑයෙන් නැගෙණහිරද කො
207 ළොම්ගස් දෙකක් වූහ, සෙනිතුගුත්ත රාජ්‍යයෙහි උදක
ශුඞ්ක ද්‍රව්ඩයෝ නදිය දුරයයි සිතා බැඳ එය නුවරට ආස
208 න්නකළහ. එහි ජීවමානවූ කොළොම්රුක සීමාවට ඇතු
ළුකොට ගියේය, මළ කොළොම්රුක පිහිටි ඉවුරෙන් සීමා

තොමෙම් මළකොළොම්රුකෙන් ඌර්ධ්ව භාගයට පත්වීය, ස්ථ
209 විරතෙම සිංහසනාන නම් තොටින් ඌර්ධ්වභාගයට පැමිනා
ඉවුරෙන් වඩනේ පහන්තොටට පැමින නිමිති ගැළපූ
210 සේක. නිමිත්තෙන් නිමිත්ත ගැළපූකල්හි සස්න මොනවට
211 පිහිටියේයයි දෙව් මිනිස්සු සාධුකාර පැවැත්තූහ. රජහු
විසින් හිව්ට දුන්කල්හි මහත් ප්‍රඥාඇති ඉන්ද්‍රිය වසඟකළාවූ
මහාස්ථවිරයන්වහන්සේ නිමිත්තයන් හාත්පසින් කීත්ත
212 නය කළසේක්. විධිවූපරිද්දෙන් දෙතිසක් ඛණ්ඩසීමාවන්
පිණිසද ථූපාරාමය පිණිසද සීමාන්තරික නිමිත්තායන්ද කී
ත්තානය කොට එම දවස්හිම සියලු සීමාවන් බන්ධනය කළ
213 සේක. සීමා බන්ධනය සමාප්තකළකල්හි මහපොළව කම්පි
තවිය.

214 ස්ථවිරයන්වහන්සේ පස්වන දවස් රජගෙහි වලඳා නඳුන්
215 වෙනෙහි වැඩහිඳ බජ්ජනියක නම්වූ සූත්‍රාන්තය මහජනයා
හට දෙසනාකොට එහිදී දහසක් මිනිසුන්ට අමෘතපානය
216 පොවා මහමෙවුනා උයනෙහි වාසය කළසේක. දෙසනා
දන්නාවූ ස්ථවිරයන්වහන්සේසවෙනි දවස්හි රජගෙහි වලඳා
නඳුන් වෙනෙහි වැඩහිඳ ගොමයපිණ්ඩික නම් සූත්‍රය දෙස
217 නාකොට දහසක්ම මිනිසුන් මාර්ගඵලාවබෝධයට පමුනුවා
218 මහමෙවුනා උයනෙහිම වැඩවිසූසේක. ස්ථවිරයන්වහන්සේ
සත්වෙනි දවස්හිද රජගෙහි වලඳා නඳුන්වෙනෙහි වැඩහිඳ
219 ධම්මචක්කපපවත්තන නම්වූ සූත්‍රාන්තය දෙශනාකොට මිනි
සුන් දහසක්ම මාර්ගඵලාවබෝධයට පමුනුවා මහමෙවුනා
උයනෙහි වැඩවිසූසේක. මෙසේ තානාතිධරවූ ස්ථවිර
220 යන්වහන්සේ සත්දවසකින්ම අටදහස් පන්සියයක් මනුෂ්‍ය
යන් මාර්ගඵලාවබෝධ කරවා (ඒ මහ නඳුන් උයනෙහි
221 වාසයකළසේක) ඒ මහ නඳුන්වනය ඒ ශ්‍රෙෂ්ඨවූ අභීතුන්
වහන්සේ විසින් ශාසනය බැබලවූ ස්ථානය යන අර්ථ
222 යෙන් ජෝතිවනයයි කියනුලැබේ. රජතෙමේ ශීඝ්‍රලෙස ගිනි
සුලින් මැටි වියලවා පළමුවෙන් තිස්සාරාමයෙහි ස්ථවිර
223 යන්වහන්සේට පිරිවෙණක් කරවූයේය. ඒ ප්‍රාසාදයතෙම
කාලවර්ණවූයේය, එහෙයින් ඒ මන්දිරය එහි කාලප්‍රාසාද
224 පරිවෙණ යන නමට පැමිණියේය. ඉක්බිත්තෙන් මහ බෝ
ගෙයක්ද ලෝවාමහපායද ලහබත්ගෙයක්ද බත්සලක්ද
225 මොනවට කරවූයේය, බොහෝ පිරිවෙන්ද යහපත්වූ
පොකුණුද රාත්‍රිස්ථාන දිවාස්ථානාදීන්ද කරවූයේය. පාපයන්
226 ධොවනය කළාවූ උන්වහන්සේගේ නහන පොකුණුතෙර
කළාවූ පිරිවෙණ සුනහාත පරිවෙණයයි කියනුලැබේ.

227 ලඞ්කාවීපයට ප්‍රදීපයක්වූ ඒ උත්තමයන්වහන්සේ සක්
මන්කළ තන්හි කරණලද ඒ පිරිවෙණ දීඝචඞ්කමණයයි
228 කියනුලැබේ. ඒ ස්ථවිරයන්වහන්සේ යම් තැනෙක්හි
වනාහි අග්‍රවූ ඵල සමාපත්තියට සමවත්සේක්ද එහෙයින්
229 එය ඵලග්ගපරිවෙණයයි කියනුලැබේ. යම් තැනෙක්හි
බොහෝවූ දෙවසමූහයෝ උන්වහන්සේකරා එළඹ උපස්ථා
230 න කළාහුද එහෙයින්ම එය මරුගණ පරිවෙණයයි කියනු
ලැබේ. ඒ රජහුගේ සෙනෙවිවූ දීඝසඳ ඇමැතිතෙම මහ
231 වැම් අටකින් සුළු පහයක් කරවූයේය, එය ඒ වෙහෙරෙහි
දීඝසඳ සෙනෙවියා පිරිවෙණයයි කියනුලැබේ, ඒ පිරිවෙණ
ප්‍රධානවේ ප්‍රධානවූ ස්ථවිරයන්ට ආකරදවේ.

232 දෙවානම්පිය යන වචනයෙන් වලදනලද නම්ඇත්තාවූ
යහපත් ප්‍රඥාඇති ඒ රජතෙම නිර්මල බුඬිඇත්තාවූ මහා
මහෙන්ද්‍රනම් ස්ථවිරයන්වහන්සේ කරා පැමින ලඞ්කාවීප
යෙහි පළමුවෙනිවූ මේ මහාවිහාරය මෙහි කරවූයේය.

මෙතෙකින් හුදීජනයා පහන්සංවෙග පිණිස කළ මහා
වංස මහාවිහාර පටිග්ගහණ නම්වූ පසළොස්වන අදියර නිමි.

---

# 16 වෙනි පරිච්ඡේදය.

1 ඒ මහාමහෙන්ද්‍රස්ථවිරයන්වහන්සේ පිඬු පිණිස පුරයෙහි
හැසිර ජනයාට සඞ්ග්‍රහකොට රජගෙයි වලදමින් රාජ
2 සඞ්ග්‍රහකරන්නේ සව්සිදිනක් මහමෙවුනා උයන් වෙනෙහි
වාසය කළසේක, මහාප්‍රාඥවූ ඒ ස්ථවිරතෙම ඇසළමස ශුක්ල
පක්ෂය සම්බන්ධවූ තෙළෙස්වෙනි දවස්හි වනාහි රජගෙහි
3 වලඳා මහරජහට මහාප්‍රමාදසූත්‍රාන්තය දෙශනාකොට ඉක්
බිතෙත්තන්ද එහි චෛත්‍යපර්වතයෙහි විහාරකරණයක්
කැමැතිවෙමින් පෙරදිගින් නික්ම සෑගිරියට වැඩිසේක.
4 තෙරුන්වහන්සේ එහි වැඩියා අසා මිහිපතිතෙම රියනැඟී
5 දේවීන් දෙදෙනෙක්ද ගෙණ තෙරුන්වහන්සේගේ පියවර
6 පසුපස්සේ ගියේයි. ස්ථවිරයෝතුමූ එහි නාගචතුෂ්කස්ථාන
යෙහිවූ විලෙහි නාගෙණ පර්වතයට නගිනා පිණිස පිළිවෙ
7 ළින් වැඩසිටියෝය. එකල්හි රජතෙමේ රථයෙන් බැස සිය
ලුම ස්ථවිරයන් වැන්දේය, ඒ ස්ථවිරයෝතුමූ "මහරජනෙනි

කුමට උෂ්ණයෙහි කලානතව ආයෙහිද"යි විචාරා වදාළා
8 හුය. "නුඹවහන්සේලාගේ ගමනෙහි සැකකරමින් ආයේ
වෙමි"යි කීකල්හි "බන්ධකයන්හි දක්ෂවූ ස්ථවිරයන්වහන්
9 සේ මෙහිම වස්වසන පිණිස ආයෙමුය"යි වදාරා වස්සූප
10 නායිකක්ඛන්ධකය රජහට වදාළසේක. රජහුගේ බෑනාවූ
මහාරිට්ඨනම් මහාමාත්‍යතෙමේද රජු ඉදිරියෙහි සිටියේය,
11 ඒ ධර්මය අසා යාච්ඤාකොට දෙටු කණිටු සොහොවුරන්
පස්පණස්දෙනෙකුහා සමග ස්ථවිරයන්වහන්සේ සමීප
යෙහි එදවසම පැවිදිවූහ. මහත් ප්‍රඥාඇත්තාවූ ඒ සිය
12 ල්ලෝ කරකම් අවසානයෙහි අර්හත්ඵලප්‍රාප්තවූහ. ඒ නරේ
න්‍ද්‍රතෙම එදවසම කන්තකනම් චෛත්‍යස්ථානයෙහි හාත්
පස අටසැටලෙණ කර්මාන්ත පටන්ගත්වා නගරයට සම්ප්‍රා
13 ප්තවිය, අනුකම්පාකරණ ඒ ස්ථවිරයෝතුමූ (පෙරවරු) කාල
14 යෙහි නුවරට වදනෝ එහිම විසූහ. රජතෙම ලෙන්
කම් නිමවූකල ඇසළමස පූර්ණ පොහෝදවස්හි ගොස් තෙ
15 රුන්වහන්සේලාට විහාර දක්ෂිණාව දුනෙන්ය. කෙලෙස්
හිම් ඉක්මූ ඒ ස්ථවිරයන්වහන්සේ ඒ විහාරයටද ඒ මහාරිට්ඨා
දීන්ගේද නැවත පැවිදි අපේක්ෂා කරනානන්ගේද ප්‍රයෝජ
16 නය පිණිස දෙතිසක් සීමා මාලකයන්ටද එදවස්ම සීමාබ
න්ධනයකොට තමන් විසින් බඳනාලද තුම්බුරු මාලකනම්
ඛණ්ඩසීමායෙහි ඒ සියල්ලන්ගේ උපසම්පදාව පළමුකොටම
17 කළසේක. මේ සියලුම දෙසැට නමක් රහතන්වහන්සේ
ලා ඒ සෑගිරියෙහි වස්එළැඹ රජහට සඞ්ග්‍රහකළහ.
18 දෙවිමිනිස් සමූහයෝ නමස්කාර පැමිනියාවූ ඒ ගණප්‍රධා
නවූ තෙරනුවන්ද ගුණයෙන් පතළාවූ කීර්තිමත්වූ ඒ
සඞ්ඝයාද පූදන්නෝ උන්වහන්සේලාකරාත් එලඹ (පූදන්
නෝ) මහත්වූ පින්රැස් කළාහුය.

මෙතෙකින් භූදිජනයා පහන් සංවේග පිණිස කළ මහ
වංස චෛතියපබ්බතවිහාරපටිග්ගහණ නම්වූ සොළොස්වන අදි
යර නිමි.

---

# 17 වෙනි පරිච්ඡේදය.

1 මහත් ප්‍රඥාඇත්තාවූ මහාස්ථවිරයන්වහන්සේ වසනලද
2 වස්ඇතෙප් පවරා ඉල්මස පූර පසළොස්වක්හි මහරජහට
"නරෙන්ද්‍රයානෙනි අපගේ ශාස්තෘවූ සම්බුද්ධයන් වහන්සේ

අපවිසින් බොහෝකලකින් පූර්වයෙහි දක්නාලද්දේය
3 අනාථ වාසයෙන් විසූම්හ, අපට මෙහි පූජනීය වස්තුවක් නැතෙත්ය." යි මේ වචනය වදාළසේක. වහන්ස "සර්වඥයන්වහන්සේ පිරිනිවී සේකැයි මට වදාළානු නොවේද්ද" යි (රජතෙම කීයේය) "ධාතූන් දුටුකල්හි සර්වඥයන්වහන්සේ
4 දක්නාලද්දේනම් වේ" යි (ස්ථවිරයන්වහන්සේ) වදාළසේක. "මාවිසින් සෑයක් කරවීමෙහිවූ නුඹවහන්සේලාගේ අභිප්‍රාය දන්නාලද්දේය මම ථූපයක් කරවන්නෙමි නුඹවහන්සේලා ධාතූන් දැන වදාරණ සේක්ව" යි නරේන්ද්‍රතෙම
5 කීයේය. ස්ථවිරයන්වහන්සේ "සුමණසාමණේරයන් හා මන්ත්‍රණය කරව" යි රජහට වදාළසේක, ධාතූන් කොයින්
6 ලබමුද" යි ඒ හෙරණුනුවන්ට කීයේය. "නරේන්ද්‍රයානෙනි පුරයහා මාර්ගය සරසවා පෙහෙවස් ඇත්තාහි පිරිස් සහිතව මගුලැතුනැඟී සේසත දරමින් තූර්‍ය්‍යයන් සහිතව සවස්වේ
7 ලෙහි මහානාගවන නම් උයනට යව, නරේන්ද්‍රය ධාතුප්‍රභෙ
8 දවබොධය කළාවූ සර්වඥයන්වහන්සේගේ ධාතූන් එතන්හිදී ලබන්නෙහිය" යි ඒ සුමණ නම් හෙරණුනුවෝ සතුටු
9 සිත්ඇති නරනිඳුහට වදාළහ.

ඉක්බිත්තෙන් ස්ථවිරයන්වහන්සේ රජගෙන්(නික්ම) සෑගිරියට වැඩ යසපත් මනොගනි ඇත්තාවූ සුමණනම් හෙරණ
10 නුවන් "යසපත්වූ සුමණය (මෙහි) එව" යි කැඳවා "තෝ උතුම්වූ පුෂපපුරයට ගොස් තාගේ මුත්තනුවූ මහරජහට මේ
11 සේ අපේ වචනය කියව "මහරජතෙනි යුෂමතුන්ගේ යහලුවූ දෙවියන්ට ප්‍රියවූ (දෙවැනි පෑතිස් නම්වූ) මහරජතෙම බුඩශාසනයෙහි ප්‍රසන්නාවූයේ ථූපයක් කරවනු කැමැතෙත්ය.
12 නුඹ සමීපයෙහි බොහෝ(සුගත)ශරීරධාතු ඇත්තාහ සර්වඥයන්වහන්සේගේ ධාතූන්ද ශාස්තෘන්වහන්සේ විසින් පරි
13 භොගකරණලද්දාවූ පාත්‍රයද දෙව" යි කියා පාත්‍රය පුරා ඒ ධාතූන් ගෙණ සක්දෙව් පුරවරයට ගොස් ඒ සක්දෙව් රජහට මෙ
14 සේ අපේ වචනය කියව, "දෙවේන්ද්‍රයානෙනි තුන්ලෝ වැස්සන්ගේ දක්ෂිණාවට සුදුසුවූ (සර්වඥයන්වහන්සේගේ) දකුණු දළදාවද දකුණු අකුදාවද යුෂමතුන් සමීපයෙහි ඇ
15 ත්තාහ, ඒ දළදාවම පුදව ශාස්තෘහුගේ අකුදාව දෙව සුරේන්ද්‍රය ලක්දිව් වැස්සාගේ කටයුත්තෙහි ප්‍රපවනොවෙව" යි (කියවයි වදාළසේක) ඒ මහත් සෘඩිමත්වූ හෙරණුනුවෝ "වහන්
16 ස එසේය" යි කියා එකෙණෙහිම ධර්මාශොක මහරජුකරා
17 වැඩිසේක. එහි ශාලවෘක්ෂමූලයෙහි තබනලද කාර්ත්ති
18 කොත්සවයෙන් පුදනුලබනනාවූ යසපත්වූ බොධියද දුටුසේ

කා. ස්ථවිරයන්වහන්සේගේ වචනය කියා රජහු සමීපයෙන් ලදුවූ ධාතූන් පාත්‍රය පුරාගෙණ හිමවතට පැමිනියේක.
19 ධාතුසහිතවූ උතුම් පාත්‍රය හිමවත තබා ශක්‍රදෙවේන්ද්‍රයාකරා ගොස් ස්ථවිරයන්වහන්සේගේ වචනය කීසේක.

20 ශක්‍රදෙවේන්ද්‍රතෙම සිළුමිණිසෑයෙන් දකුණු අකුදුව ගෙ
21 ණ හෙරණුහුවන්ට දුනේය. සුමණ සාමණේර යතිතෙම ඒ අකුදුව හා ධාතුපාත්‍රයද ගෙණ එතැනින් සෑගිරියට
22 අවුත් ස්ථවිරයන්වහන්සේට එය දුන්සේක. සවස් වේලෙහි රාජසේනාව විසින් පෙරටුකරණ ලදුවූ නරේන්ද්‍රතෙම කිය
23 නලද විධියෙන් මහානාගවන නම් උයනට ගියේය. ස්ථවිරයන්වහන්සේ ඒ පර්වතයෙහිම සියලු ධාතූන් තැබූසේක එහෙයින් මිශ්‍රකපර්වතය චෛත්‍යපර්වත නම්විය.

24 ස්ථවිරයන්වහන්සේ ඒ ධාතු පාත්‍රය සෑගිරියෙහි තබා අකුධාතුව රැගෙන (සාමණේරයන් විසින්) ලකුණුකරණලද
25 ස්ථානයවූ (මහානාගවනයට) වැඩිසේක. නරේන්ද්‍රතෙම "ඉදින් මේ සර්වඥයන්වහන්සේගේ ධාතුවෙක්නම් මාගේ ඡත්‍රය (ධාතූන්වහන්සේ දෙසට) තෙමේම නැමේවා, හස්ති
26 තෙමේ දනින් සිටීවා, මේ ධාතුකරඬුව ධාතුසමග අවුත්
27 මාගේ මස්තකයෙහි පිහිටාවා" යි සිතුයේය, සිතනලද එය එසේම විය. [illegible] මිහිපතිතෙම අමෘතයෙන් අභිෂෙක ලද්දෙක්
28 මෙන් අතිශයින් සතුටුවූයේය, ඒ ධාතු කරඬුව හිසින්ගෙණ ඇත්කඳ මතෙහි තැබූයේය, සතුටුවූ හස්තිතෙම කුංචනාද කොළේය, පොළව කම්පිතවිය. හස්තිතෙම එතැනින් හැරී
29 ස්ථවිරයන් හා සේනාවාහන සහිතවූයේ පෙරදිග දොරින් යහපත්වූ පුරයට ප්‍රවිෂ්ටව නැවත දකුණු දොරින් එයින්
30 නික්ම ථූපාරාමයෙහි චෛත්‍යස්ථානයෙන් පිටිපස කරණලදුවූ ප්‍රමොජවසතු නම් දෙවස්ථානයට ගොස් බොධි
31 ස්ථානයෙහි නැවැතී පූර්වදිගට අභිමුඛව සිටියේය, එකල්හි ඒ සතුපස්ථානය හිඟුරුවැල් හා හිය වැලින් වැසුනේවිය,
32 නරදෙවතෙම දෙවියන් විසින් රක්නාලද පවිත්‍රවූ ඒ ස්ථානය එකෙණෙහිම මනාකොට ශුද්ධද අලඞ්කෘතද කරවා, ඇත්කඳින් ධාතු පාතට වඩනා පිණිස ආරම්භකොළේය,
33 හස්තිතෙම ඒ නොකැමැතිවිය, රජතෙම ඒ (ඇතුගේ)
34 සිත ස්ථවිරයන් විචාළේය. "තමන් කුම්භය හා සම උස්තැනෙක තැබීමට (හස්තිතෙම) කැමැතිවෙයි ධාතූන් පාත වැඩීම උඹුවිසින් අභිමත නොකරණලද" යි ස්ථවිරතෙම වදාළසේක.

35 රජතෙම එකෙණෙහිම අණකොට ශුෂ්කවූ අබාවැටෙහි ශුෂ්කකර්දම පිණ්ඩයෙන් ඒ හස්තිකුම්භාසට සමකොට (ථූප 36 යක්) නිමවා ඒ උත්තම ස්ථානය බෙහෙවින් සරසා ඒ ධාතුව 37 ඇත්කඳින් බා එහි වැඩූයේය. ධාතු ආරක්ෂාකිරීම සංවිධානකොට, එහි ඇතුසිටුවා ධාතුචෛත්‍යය කිරීමෙහි යුහුසුලුසිත්ඇත්තාවූ 38 රජතෙම වහා ගඩොල් නිමවීමෙහි බොහෝවූ මිනිසුන් මෙහෙයා ඇමැතියන් සහිතවූයේම 39 ධාතු කෘත්‍යය සිතමින් නුවරට ද්‍රව්‍යඩවූයේය. සඞ්ඝයා සහිතවූ මහාමහෙන්ද්‍රස්ථවිරතෙම වනාහි යහපත්වූ මහමෙවුනා උයනට එළැඹ එහි වාසයකළසේක.

40 ඒ ඇත්තෙම රාත්‍රියෙහි ධාතුසහිතවූ ඒ ස්ථානය සිසාරා ගමන් කෙරේ, දහවල් (ධාතුව කුම්භාස්ථලයෙහි තබාගෙණ) 41 ධාතුසහිතවූයේ බොධිස්ථානයෙහිවූ සාලාවෙහි සිටී, ස්ථවිරයන්ගේ මතය අනුව පැවැත්තාවූ නරේන්ද්‍රතෙම ඒ චෛත්‍ය ස්ථානය මතෙකඟ් කෙණ්ඩයක් පමණ උස්වූ ථූපයක් කිප 42 දිනකින් බඳවා, එහි ධාතු පිහිටුවීම (නුවර) ඝොෂාකරවා 43 ථූපාරාමයට එළඹියේය, ඒ ඒ තැනින් හාත්පසින් මහජනතෙම රැස්වූයේය, ඒ සමාගමෙහි ඇත්කුඹුතෙලෙන් අහසට නැංගාවූ ධාතුතොමෝ සත්තලක් පමණ උස අහසෙහි 44 පෙණෙමින් සිටියා ජනසමූහයා විස්මයට පත්කරමින් ගණ්ඩම්බ නම් රුක්මුල සර්වඥයන්වහන්සේ පෙළහරකළ 45 පරිද්දෙන් ජනයා රෝමොද්ගමනය කරනනාවූ පෙළහර කළසේක. නොයෙක්වර එසින් නික්මුනාවූ ගිනිදැලින්හා ජලධාරාවෙන් සකල ලඞ්කා පෘථිවිතොමෝ තමාම ආලොක 46 ඇත්තීද තෙමතලද්දීද විය, පරිනිර්වාණ මචකයෙහි හොත්තාවූ පසැස්ඇති සර්වඥයන්වහන්සේ විසින් මිහාධිෂ්ඨාන 47 පසක් කරණලද්දේය. "අශොක නම් රජහු විසින් ගනනා ලබන්නාවූ මහාබොධිදක්ෂිණශාඛාතොමෝ තොමෝම 48 සිඳී කටාරමෙහි පිහිටාවා, ඒ ශාඛාතොමෝ පිහිටා සියලූ 49 දිගුත් රදවමින් එලපත්‍රයන්ගෙන් යහපත්වූ සවණක් රැස් මුදුවා, සිත්කලුවූ ඕතොමෝ රන්කටාරම සහිතවූවා අහසට 50 නැගී සත්දිනක් අදෘශ්‍යමානව හිමගර්භයෙක්හි සිටීවා, ථූපාරාමයෙහි පිහිටනනාවූ මාගේ දකුණු අකුදුව අහසටනැඟී 51 යමා මහපෙළහර කෙරේවා. ලඞ්කාවට ආහරණවූ රුවන්වැලි සැයෙහි පිහිටනනාවූ ප්‍රමාණයෙන් ද්‍රෝණයක් පම 52 ණවූ ධාතූහු බුද්ධවෙසධරව නැගී අහස සිටියාහු යමා මහ පෙළහරකොට පිහිටත්වා" සි මේ අධිෂ්ඨාන පස තථාගත 53 යන්වහන්සේ ඉටා වදාළසේක.——එහෙයින් ඒ අකුදුතො

මෝ එකල්හි ඒ පෙළහර කළසේක. ඒ ධාතුතොමෝ අහ
54 සින් බැස, මිහිපල්හු මුදුනෙහි පිහිටිසේක, අතිශයෙන්ම
සතුටුවූ රජතෙම ඒ ධාතුව චෛත්‍යයෙහි පිහිටෙවුයේය. එ
55 සමයෙහි ඒ ධාතුව චෛත්‍යයෙහි පිහිටුකල්හි රෝමෝද්ගම
නය කරන්නාවූ අද්භූතවූ භූමිකම්පාවෙක්විය.
56 "මෙසේ සර්වඥවරයෝ නොසිතිය හැක්කාහ, බුඩධර්ම
යෝ නොසිතියහැක්කාහ, නොසිතියහැක්කවුන් කෙරෙහි
ප්‍රසන්නාවූවන්ට නොසිතියහැකිවූ විපාකයද වනොසි."
57 ඒ ප්‍රාතිහාර්‍ය්‍ය දැක ජනයෝ සර්වඥයන් කෙරෙහි පැහැදුනා
හ, රජහු මල්වූ මත්තාභය නම් රජකුමාරතෙම වනාහි
58 මුනීන්ද්‍රයන් කෙරෙහි පැහැද, නරෙන්ද්‍රයන්ට යාච්ඤාකොට
පුරුෂයන් දහසක්හා සමග සස්නෙහි පැවිදිවූයේය. චෙ
59 තාපි නම් ගමින්ද, දොරමඩලු නම් ගමින්ද, විහිරබීජ නම්
ගමින්ද, එසේම ගල්පිටියෙන්ද, එසේම උපතිස්නම් ගමින්
60 ද සතුටුවූ පන්පන්සිය ගම්දරුවෝද තථාගතයන් කෙරෙ
61 හි සටගත් ශ්‍රද්ධාඇතොත් පැවිදිවූහ. මෙසේ පුරයෙන්
බැහැරද එකල බුදුසස්නෙහි පැවිදිවූ සියලු භික්ෂූහු තිස්
62 දහසක්වූහ. මිහිපතිතෙම ථූපාරාමයෙහි උතුම්වූ ථූපය
නිමවා නොයෙක් රත්නාදියෙන් සැමකල්හි පුදකෙළේය.
63 රජහු අන්තඃපුර වාසීහුද, ක්ෂත්‍රියයෝද, අමාත්‍යයෝද,
එසේම නුවර වැසෝද, සියලුම දනවුවැසෝද, වෙන්
64 වෙන් වසයෙන් පුදකළහ. නරෙන්ද්‍රතෙම ථූපය පෙරටු
කොට එහි විහාරයක් කරවූයේය, මේ විහාරයතෙම එසින්
ථූපාරාමයයි ප්‍රකටවිය.
65 පරිනිර්වාණප්‍රාප්තවූත් ලොකස්වාමිතෙම ස්වකීයධාතු
ශරීරයෙන් පවා මෙසේ ජනසමූහයාට වැඩ හා සැප නො
යෙක් ආකාරයෙන් මනාකොට කළසේක; සර්වඥයන්වහන්
සේ ජීවමාන කල කියනුම කවරේද?

මෙතෙකින් හුදිජනයා පහන් සංවෙග පිණිස කළ මහ
වස ධාතුආගමන නම්වූ සතළොස්වන අද්යර නිමි.

---

# 18 වෙනි පරිච්ඡේදය.

1 මිහිපතිතෙම මහාබොධියද (සඞ්ඝමිත්‍රා නම්) ස්ථවිරීන්ද
2 ගෙන්වනු පිණිස ස්ථවිරයන්වහන්සේ විසින් වදාළ වචන ය
සිහිකරමින් වස්කාලයතුළ එක්දිනක් සියගෙයි ස්ථවිර

යන් සමීපයෙහි හුනොත්, ඇමැතියන්හා සමග මන්ත්‍රණය
කොට තමන් බෑනාවූ අරිට්ඨනම් ඇමැතියා ඒ කර්මයෙහි
3 තෙමේම මෙහෙයමින් (කරුණු) මෙනෙහිකොට උහු කැඳ
4 වා "දරුව ධර්මාශොක මහරජානන් කරා ගොස් මහාබො
ධියද සඞ්ඝමිත්‍රානම් ස්ථවිරීන්ද මෙහි වඩාගෙණනු හැක්
5 කෙහිදැ"යි මේ වචනය කීයේය. (ජනයාහට) තුෂ්ටිදායකවූ
දෙවයන්වහන්ස ඉදින් මම මෙහි ආයෙම් පැවිදිවනු ලබ
6 නොහාම්නම් ඒ දෙනම පැළලුප් නුවරින් වඩාගෙණඑනු
හැකෙකම්"යි (කීයේය) රජතෙම "එසේ වේව"යි කියා
උහු එහි යැවූයේය, හෙතෙම තෙරුන්වහන්සේගේද න
7 රෙන්ද්‍රයන්ගේද හසුන්ගෙණ වැද, වප්මස ශුක්ලපක්ෂයෙහි
දෙවෙනි දවස්හි නික්මුනේය, නරනිඳුහුගේ කර්මයෙහි
8 අනුයුක්තවූ හෙතෙම දඹකොල පටුනෙහිදී නැව්නැගී, මහ
මුහුද තරණයකොට ස්ථවිරයන්වහන්සේගේ අධිෂ්ඨාන
9 යෙන් යෙදිමෙන් නික්මුන දවස්හිම රම්‍යවූ පැළලුප්නුවරට
ගියේය.

10 එකල්හි වනාහි ශෛක්ෂ්‍යවූ අනුලාදෙවීතොම පන්
සියයක් කන්‍යාවන්හා අන්තඃපුරවාසීවූ ස්ත්‍රීන් පන්සිය
යක්ද සමග දසසිල් සමාදන්ව කසාවත්ඇතති පිරිසිදුවූවා
පැවිදි පතමින් ස්ථවිරීන්ගේ ආගමනය සොයතති නුවර
11 එක් පෙදෙසෙක්හි නරනිඳුහු විසින් කරවනලද සිත්කලුවූ
12 මෙහෙණ අසපුවෙක්හි යහපත් ව්‍රතඇතිව වාසයකළාය. ඒ
උපාසිකාවන් විසූ මේ මෙහෙණවර ඒ කරණකොටගෙණ
13 උපාසිකා විහාරයසි ලක්දිව ප්‍රකටවිය. (නරනිඳුහු) බෑනාවූ
මහාරිට්ඨනම් ඇමැතිතෙම රාජසන්දෙසය ධර්මාශොකනරේ
14 න්ද්‍රයානන්ට පමුනුවා ස්ථවිරයන්වහන්සේගේ සන්දෙශය හැල
කෙළේය. "රාජශ්‍රෙෂ්ඨයන්වහන්ස බුද්ධවහන්සේගේ යහළු
15 රජානන් සහෝදරයානන්ගේ දේවීතොමෝ පැවිදි පතමින්
නිබඳ සංයමඇතිව වසතානීය, ඒ දේවිය පැවිදිකරණුපිණිස
16 සඞ්ඝමිත්‍රානම් මෙහෙණිනන මෙහෙයව. ඒ මෙහෙණිනන
සමග මහාබොධි දක්ෂිණ ශාඛාවද යවව" මහාමහෙන්ද්‍රස්ථ
විරයන්වහන්සේගේ වචනයවූ එම අර්ථය තෙරණියටද
කීයේය, ඒ ස්ථවිරීතොමෝ පිය (මහරජානන්) කරා එළැඹ
17 ස්ථවිරයන්වහන්සේගේ මතය කීසේක, "මැනියෙනි යුෂ්ම
තුන් නොදක්නාවූ මම දරු මුනුබුරන්ගේ විප්‍රයොගයෙන්
18 වූ ශොකය කෙසේ දුරුකෙරෙම්දැ"යි රජතෙම කීයේය, "මහ
රජනෙනි මාගේ සහෝදරයානන්ගේ වචනය මට ගරුය,
පැවිදිකටයුතතියෝද බොහෝය එහෙයින් මාවිසින් එහි

යායුතුය"යි මිතොමෝ කීවාය.
19 "ශස්ත්‍රප්‍රහාරයට නුසුදුසුවූ මහාබොධි වෘක්ෂයෙන් ශාඛාව
20 කෙසේනම් ගණිම්ද"යි රජතෙම සිතුයේය. ඒ මහීපති
තෙම මහාදෙවනම් අමාත්‍යයාගේ උපායෙන් භික්ෂුසඞ්ඝයා
21 පවරා වලඳවා "වහන්ස ලඞ්කාවට මහාබොධිය යැවියයුතු
22 ද්‍යෙහෝ"යි විචාළේය. ඒ මොග්ගලිපුත්ත නම් ස්ථවිරයන්
වහන්සේ "යැවියයුතුය"යි වදාරා පසැස්ඇත්තාවූ සර්වඥ
23 යන් විසින් කරණලද මහාධිෂ්ඨාන පස නරෙන්ද්‍රයන්ට වදා
ළහ, ඒ මිහිපතිතෙම ඒ අසා සතුටුව මහාබොධිය වෙතට
යන්නාවූ සත්යොදුන් මග ශුඞකරවා සකස්කොට නොයෙක්
24 පරිද්දෙන් අලඞ්කාරකරවූයේය. කටාරමක් කරණ පිණිස
රන් බැහැරකරවූයේය, තුලාධාරයෙකුගේ වෙස්ගත් ඒ
25 විශ්වකර්ම දෙව්පිත් තෙමේද අවුත් "කෙපමණ කටාරමක්
26 කෙරෙම්ද"යි ඒ නරනිඳුහු විචාළේය. "තෝම ප්‍රමාණ දැන
කරව"යි කීකල්හි, රන්ගෙණ අතින් පිරිමැද එකෙණෙ
27 හිම බඳන නිර්මිතකොටලාගියේය, නවරියන් අවට ඇත්තා
වූ ගැඹුරෙන් පස්රියන්වූ තුන්රියන් විෂ්කම්භයෙන් යුක්තවූ
28 අටඅඟුල් ඝනවූ තරුණ ඇතෙකුගේ සොඬපමණ මුවවිට
29 ඇත්තාවූ තරුණ සූර්‍ය්‍යසමාන කාන්ති ඇත්තාවූ යහපත්වූ
ඒ කටාරම ගෙන්වාගෙණ රජතෙම සත්යොත්නක් දිගුවූ
30 තුන්යොත්නක් පතළාවූ සිවුරඟ සෙනඟහා මහාභික්ෂු
සඞ්ඝයාත් සමග (ප්‍රසන්නවූ ජනයන්ගේ පූජ සඞ්ඛ්‍යාත)
නානාවිධ අලඞ්කාරයෙන් සැරසුනාවූ අනෙකප්‍රකාර රත්න
31 යෙන් විචිත්‍රවූ නානාප්‍රකාර ධ්වජමාලා ඇත්තාවූ, නානාවිධ
පුෂ්පයෙන් ගැවසුනාවූ නානාවිධ තූර්‍ය්‍යඝොෂණය කරණු
32 ලදුවූ මහාබොධි වෘක්ෂයකරා එලඹ සෙනාවෙන් පිරිවරා
තිරයකින් අවුරා, මහාගණප්‍රධානවූ මහාස්ථවිරයන් දහස
33 කින්හා ප්‍රාප්තාභිෂෙකඇති දහසකින් වැඩිවූ රජදරුවන්
ගෙන්ද තමන්හා මහාබොධිය මොනවට පිරිවරා ඇඳිලි
බැඳගෙණ මහාබොධිය බැලූයේය, ඒ මහාබොධීහුගේ
34 දක්ෂිණශාඛාව සම්බන්ධවූ සතරරියන් පමණ තැන්හා සක
35 න්ධයද තබා ශාඛාවෝ අන්තර්ධානවූහ. ඒ පෙළහරදැක සතු
36 ටුවූ මිහිපතිතෙම "මම රාජ්‍යයෙන් මහාබොධිය පුදමි"යි
කියා මහාබොධිය මහාරාජ්‍යයෙහි අභිෂෙක කෙළේය, මිහි
37 පතිතෙම මල්ආදියෙන් මහාබොධිය පුදා ප්‍රදක්ෂිණකොට
38 අටතැනෙක්හි ඇඳිලි බැඳ නමස්කාරකොට, නොයෙක්
රත්නයෙන් සරසනලද රනින් නිමවනලද මනාකොට
39 නගිනුහැක්කාවූ ශාඛාවන් දක්වා උස්වූ පීඨයෙක්හි ඒ රන්

40 බඳුන තබ්බවා නැගී උතුම්වූ ශාඛාව ගන්නා පිණිස රන් තෙලෙලන් රත්සිරියෙල් ගෙණ ශාඛාවෙහි රේඛාවක්ඇඳ "ඉදින් මේ මහාබෝධිය ලඞ්කාද්වීපයටයායුතුවේද, ඉදින් 41 මම සර්වඥයන්වහන්සේගේ සස්නෙහි විමතිරහිතවෙම්ද මේ යහපත්වූ දක්ෂිණමහාශාඛාව තොමෝම සිඳී මේ රන් බඳුනෙහි පිහිටාවා" යි සත්‍යක්‍රියා කෙළේය.

42 ඒ මහාබෝධිශාඛාතොමෝ රේඛාකළ තැනින් තොමෝම 43 සිඳී සුගන්ධකර්දමයෙන් පිරුණුවූකටාරම මත්තෙහි පිහිටියාය, නරේශ්වරතෙම මූලරේඛාවෙන් මත්තෙහි තුණඟුලෙන් 44 තුණඟුල රත්සිරියෙලින් (නවතැනෙක) රේඛාඳුනය කරමින් පිරිසින්දේය, ආදිවූ රේඛාවෙන් මහත්වූ මූල්ද අනිකුත් රේඛාවලින් කුඩාමුල්ද දශය දශය නික්මගෙණ දැල් 45 කවුළු සමානව පාතබැස්සාහුය, ඒ ප්‍රාතිහාර්‍ය්‍යය දැක අතිශයෙන්ම සතුටුවූ නරේන්ද්‍රතෙම එහිම (සිට) උද්ඝොෂණය 46 කෙළේය, හාත්පස පිරිසද (තුෂ්ටිඝොෂණය) කළාය, සතුටු සිත්ඇත්තාවූ භික්ෂුසඞ්ඝතෙම සාධුකාරය හැගවූසේක, හාත් 47 පස දහස්ගණන් පිළිහිස සිසැරුම් පැවැත්තාහ, ඒ මහාබෝධිතොමෝ මෙසේ මහජනයා පහදවනුන් මූල් සියයකින් ඒ රන්කටාරමෙහිවූ සුවඳ මඩෙහි පිහිටියාය.

48 ඒ බෝධිස්කන්ධයතෙම දසරියන, මනරම්වූ ශාඛාපස සතර 49 රියන් සතරරියන් වූවාහු පස්පලයනින් සැදුම්ලද්දාහ, ඒ ශාඛාවන් සම්බන්ධවූ කුඩා ශාඛාවන් දහසක්ද විය, මෙසේ 50 මහාබෝධිතොමෝ මනොහර ශ්‍රීධාරණයෙන් හෙබියාය, 51 කටාරමෙහි මහාබෝධිය පිහිටිකෙණෙහි පොළව කම්පිත විය, නානාප්‍රකාර ප්‍රාතිහාර්‍ය්‍යයෝ වූහ, දෙවියන්හා මිනිසුන් 52 විෂයෙහි තූර්‍ය්‍යයන්ගේ ස්වකීය නාදයෙන්ද දෙව්බ්‍රහ්ම සමූහයාගේ සාධුකාර නාදයෙන්ද මේඝයන්ගේද මෘගපක්ෂින්ගේද යක්ෂාදීන්ගේද ශබ්දයෙන්ද පෘථිවිකම්පා ශබ්දයෙ 53 න්ද එකකොළහල විය. බෝධිවෘක්ෂයාගේ ඵල පත්‍රයන්ගෙන් සවණක් රැස් නික්ම මුළු සක්වල හෙබවූහ. කටා 54 රම සහිතවූ මහබෝතොමෝ එතැනින් අහසට පැන නැගී දශ්‍රීන රහිතව සත්දවසක් හිමගර්භයෙහි පිහිටියාය.

55 රජතෙම පීඨයෙන් බැස ඒ සත්දවස එහි වෙසෙමින් සතතයෙන් නොයෙක් පරිද්දෙන් මහබෝපුද කෙළේය. ඒ සත් 56 දවස ඉක්මගිය කල්හි සියලු ඒ තුසාර ජලයෙන් යුක්තවූ මේඝයෝද එකතුවූ රශ්මිහුද මහාබෝධියට ප්‍රවිෂ්ටවූහ. 57 කටාරම සහිතව පිහිටියාවූ මනරම්වූ මහබෝතොමෝ සියලු මහජනයාට ශුද්ධවූ ආකාශයෙහි පෙණිනිය.

58 නානාවිධවූ ප්‍රාතිහාර්‍ය්‍ය පැවතිකල්හි මහබෝතොමෝ ජනසමූහයා විස්මිතකරවමින් පොළෝතලයට බැස්සාය.
59 නොයෙක් ප්‍රාතිහාර්‍ය්‍යයන් කරණකොටගෙණ පිණගියාවූ ඒ මහරජතෙම නැවත මහාබොධිය මහාරාජ්‍යයෙන් පිදූ
60 යේය. ඒ නරේන්ද්‍රතෙම මහාබොධිය මහාරාජ්‍යයෙන් අභිෂෙකකොට නානා පූජායෙන් පුදනොහ් නැවත සත්දවසක්
61 එහිම වාසයකෙළේය. දෙසතිය ඇවෑමෙහි වප්මස පූර
62 පසළොස්වක් පොහෝදවස්හි මහාබොධිය එතැනින් වඩාගනෙත්ය, වප්මස කෘෂ්ණපක්‍ෂයෙහි චාතුර්දශීවූ පොහෝ දවස්හි නරේන්ද්‍රතෙම මහාබොධිය යහපත්වූ රථයෙක්හි
63 තබාගෙණ පුදමින් එදවස්ම සඬතිය පුරයට පමුනුවා
64 බොහෝසෙයින් අලඬකාරකොට යහපත්වූ මණ්ඩපයක් කරවා කාර්තික ශුක්ලපක්‍ෂයෙහි පෑළවිය දවස්හි මහාබොධිය
65 එහි පැදුම්දිග ශුභවූ මහාසාලවෘක්‍ෂ මූලයෙහි වඩාතබා දවසක්පසා නොයෙක් පූජාවන් කරදූයේය, ඒ බොධිය ග්‍රහණයකළ දවසින් සතළොස්වන දවස්හි එකවිටම අඞ්
66 කුර නවයක් උපන්හ, එසින් සතුටුවූ නරේන්ද්‍රතෙම නැව
67 තද මහාබොධිය රාජ්‍යයෙන් පිදූයේය. භූමිපතිතෙම මහාබොධිය රාජ්‍යයෙහි අභිෂෙකකොට, නානාවිධවූ මහාබොධි පූජාද කරවූයේය.

68 මෙසේ විලක්ඛා සමානවූ පුෂ්පපුරයෙහි රැස්සහිතවූ නානාවිධ මනොඥවූ ධවජයෙන් ආකුල විශාලවූ අතිශයෙන් සිත්කලූ උතුම්වූ මහාබොධිපූජාතොමෝ දෙවිමිනිසුන්ගේ සිත් ප්‍රබොධකරනනී විය.

මෙතෙකින් සුදිජනයා පහත් සංවෙග පිණිස කළ මහවස මහාබොධි ගහණනම් අටළොස්වෙනි අදියර නිමි.

---

# 19 වෙනි පරිච්ඡේදය.

1 ඒ මිහිපතිවූ මහරජතෙම මහබෝ රක්නා පිණිස අට
2 ළොස් කුලයක දෙවියන්ද, අටළොස් කුලයක ඇමැතියන්ද, අටකුලයක බමුණන්ද, අටකුලයක කෙළෙඹියන්ද, ගො
3 පළු කුලයන්හා තරස්කුලයන්ද, කුලිඟු කුලයන්ද එසේම පෙහෙර කුලයන්ද, කුඹල් කුලයන්ද, සියලූම සේනා සම්බ
4 න්ධ කුලයන්ද, නාග යක්‍ෂයන් සම්බන්ධ කුලයන්ද, අට

අටදී, අභිමතදෑයිවූයේ රත්රිදී මුවාකලයත් අටඅටදී, ගඟා
නම් නදියෙහි සරසනලද නැවට මහාබොධිය නංවා
5 එකොළොස්නමක් මෙහෙණින්නන් සහිතවූ සඞ්ඝමිත්‍රානම්
6 මහතෙරණින්ද එසේම අරිෂ්ටකුමාරාදීන්ද නැව්නංගවා,
නුවරින් නික්ම වින්ධ්‍යවනය සත්දවසකින්ම ඉක්මවා තාම
7 ලිප්ති නම් තොටට පැමිනියේය, දෙවියෝද නාගයෝද
මනුෂ්‍යයෝද, අතිශයින් උදාරවූ පූජායෙන් පුදනනාහු සත්
8 දවසින්ම එහි පැමිනියහ. ඒ මහීපතිතෙම මහාබොධිය
මහාසමුද්‍ර තීරයෙහි වඩාහිඳුවා නැවතද මහාරාජ්‍යයෙන්
9 පිදූයේය, අභිමතදෑයකවූ ඒ නරෙන්ද්‍රතෙම මහාබොධිය
මහාරාජ්‍යයෙහි අභිෂෙකකොට, උඳුවප්මස ශුක්ලපක්‍ෂ
10 යෙහි පැළවිය දවස්හි එතැනින් මහාබොධිය (නැවට)
වඩන්නට (පැළලුප්නුවර) සාලමූලයෙහිදී දෙනලද ජාති
11 යෙන් උසස්වූ ඒ අටඅට කුලවාසීන්හා සමග මහාබොධිය
ඔසවාගෙණ එහි ග්‍රීවය දක්වා ජලයෙහිබැස, මනාකොට
12 නැවෙහි පිහිටවූයේය. සපිරිවරින් සහිතවූ ඒ මහතෙරණියද
13 මහාරිෂ්ට නම් මහාමාත්‍යයාද නැවට නංගවා මේ වචනය
කීයේය. "මම තුන්වරක් මහාබොධිය රාජ්‍යයෙන් පිදූයෙමි.
14 එසේම මාගේ යහළුවූ රජතෙම රාජ්‍යයෙන් පුදාවා." මේ
වචනය කියා ඉවුරෙහි සිටියාවූ මහරජතෙම වඩනාවූ මහා
15 බොධිය දකිමින් කඳුළු වැගිරවූයේය. මහාබොධියෙන්
වෙන්වීම කරණකොටගෙණ ශොකඇතිවූ ඒ ධර්මාශොක
මහරජතෙම හඬා වැලපසියපුරයට සම්ප්‍රාප්තවූයේය.

16 මහාබොධිය ආරොපණය කරණලදවූ නැව සාගරයට
වනීය, (ඒ) මහමුහුද හාත්පස යොදුනක් තන්හි රළ සං
17 සිඳුනේය, හාත්පස පස්වණක් පියුම් පිපුනාහ, නොයෙක්
තූර්‍ය්‍යයෝද අහස්හි වැයුනාහ. නොයෙක් දෙවතාවුන් විසින්
18 නොයෙක් පූදපවත්වනු ලැබූහ. නාගයෝ මහාබොධිය
19 ගන්නාපිණිසද සෘද්ධිවිකුර්වණය කළහ. අභිඥාබල පාර
20 ප්‍රාප්තවූ සඞ්ඝමිත්‍රා නම් මහතෙරණිතොමෝ ගුරුළු වෙස්
ඇතිව ඒ මහානාගයන් බියගැන්වීය. බියගන්වන ලදවූ
ඒ මහානාගයෝ මහතෙරණින් යාච්ඤාකොට මහාබො
21 ධිය එතැනින් නාගභවනයට වඩාගෙණගොස් සත්දවසක්
මුළුල්ලෙහි නාගරාජ්‍යයෙන්හා නානාවිධ පූජායෙන් පුදා
22 වඩාගෙණවුත් නැවෙහි පිහිටවූහ. මහාබොධිතොමෝ එදා
වසම මෙහි දඹකොළ පටුනට වැඩියාය, ලෝවැඩෙහි ඇලු
23 නාවූ දෙවැනි පෑතිස් රජතෙම වනාහි, සුමණ සාමණේර
24 යන් අතින් පූර්වයෙහි අසාතලද ඒ බොධිද්‍රුමාගමනය ඇ

නොව් උඳුවප්මස පළමුවෙනිදින පටන් (නුවර) උතුරු දො
රින් දඹකොළ පටුන් මහමඟ දක්වා සියලු මාර්ගය අල
25 ඞ්කෘතකරවා මහාබොධිය කෙරෙහි ගිය සිත්ඇතියේ, මුහුදු
අසල සාලාවෙක ස්ථානයෙහි සිට, මහමුහුද වඩනා මහා
බොධිය මහාතෙරනුවන්ගේ ඍද්ධිය කරණකොටගෙණ දුටු
26 යේය. ඒ අද්භූතය ප්‍රකාශකරණ පිණිස ඒ ස්ථානයෙහි කර
ණලද සාලාතොමෝ මෙහි සමුද්‍රාසන සාලායයි ප්‍රකටවිය.
27 යහපත් දෙහඇත්තාවූ මහරජතෙම සෙනාසහිතවූයේ
මහාස්ථවිරයන්වහන්සේගේ ආනුභාවයෙන් ඒ ස්ථවිරයනුත්
28 හාසමග එදවසම දඹකොල පටුනට මහාබොධිය මෙහි
29 පැමිනිමෙහි ප්‍රීතියෙන් පත්වූයේ, ලඞ්කෙශ්වර නරෙන්ද්‍රතෙම
ප්‍රීතිවාක්‍යය පවත්වමින් ග්‍රීවය පමණ ජලයට බැස, සො
ළොස්කුල ජනයන් සමග මහාබොධිය හිසින් දරාගෙණ
30 වෙරලට නගාගෙණ යහපත්වූ මණ්ඩපයෙහි වඩා ලඞ්කා
31 රාජ්‍යයෙන් පිදූයේය. නරෙන්ද්‍රතෙම තමන්ගේ රාජ්‍යය
සොළොස්කුල ජනයන්ට පමුනුවා තෙමේ දොරටුපාල තන්
32 හි සිට තුන්දිනක් එහිම නානාවිධ පූජාකෙළේය. කාරණ
යෙහි නුවනැත්තාවූ නරෙන්ද්‍රතෙම දසවක් දවස්හි මහාබො
ධිය යහපත්වූ රථයෙකින් වඩාගෙණ එන්නේ පැදුම්දෙස
33 විහාරස්ථානයෙහි තැබ්බවූයේය, ඒ නරෙන්ද්‍රතෙම (එතන්
34 හි) සඞ්ඝයාටහා ජනයාට පෙරවරු බත පැවැත්වූයේය,
මහාමහෙන්ද්‍රස්ථවිරයන්වහන්සේ එතන්හි දශබලධාරී තථා
ගතයන්වහන්සේ විසින් කරණලද නාගදමනය ඒ රජහට
නිරවශෙෂවශයෙන් වදාළසේක.
35 මිහිපතිතෙම ස්ථවිරයන්වහන්සේගෙන් අසා සර්වඥයන්
වහන්සේ විසින් වැඩහිඳුම් ආදියෙන් පරිභොගකරණලද්
36 දාවූ ඒ ඒ තන්හි ලකුණුකරවා, තිවක්ක නම් බ්‍රාහ්මණයාගේ
37 ගම්දොරද ඒ ඒ තන්හිද මහාබොධිය වඩාහිඳුවා සුදුවැලි
අතුළ නානාවිධ පුෂ්පයෙන් ආකුලවූ ඔසවනලද කොඩි
38 ඇති මල් ඇගෑයෙන් සරසනලද්දාවූ මාර්ගයෙහි රුදාවල්
අනලස්ව පූදකරමින් තුදුස්වක්හි අනුරාධපුර සමීපයට
39 මහාබොධිය වඩාගෙණවුත් වැඩෙන්නාවූ සෙවනැලිඇති
සවස්කාලයෙහි පූජාකෙරෙමින් මොනවට සරසනලද පුර
40 යට උතුරු දොරින් ප්‍රවිෂ්ටකෙළේය. ඒ නරෙන්ද්‍රතෙම දකු
ණුදොරින් නික්ම සිවුබුදුවරයන් විසින් සෙවුනාලද මහමෙ
41 වුනා උයනට ප්‍රවිෂ්ටකර සුමණ සාමණෙරයන්ගේ වචන
යෙන්ම මොනවට සරසනලද්දාවූ පූර්වබොධීන් පිහිටි
42 ස්ථානයවූ මනරම්වූ ප්‍රදෙශයට පමුනුවා රාජාභරණයෙන්

අලඞ්කෘතවූ සොළොස්කුල ජනයන් හාසමග මහාබොධිය
43 තබා පිහිටුවනුපිණිස අතින් තොරකෙළේය. අතින්මුත්
පමණ කල්ඇති ඒ මහාබොධිතොමෝ අසූරියන් පමණ
44 අහසටනැගී සිටියා මනාවූ සවණක් රැස් විහිදවූවාය.
මනොරම්‍යවූ ඒ රශ්මිහු ලඞ්කාද්වීපයෙහි පැතිර බ්‍රහ්මලොක
45 යෙහි හැපී සූර්‍ය්‍යාගේ අස්තඞ්ගමය දක්වා සිටියාහුය. ප්‍රාති
හාර්‍ය්‍යයෙහි ප්‍රසන්නවූ දසදහසක් පුරුෂයෝ විදර්ශනාවඩා
රහත්බවට පැමින මෙහි පැවිදිවූහ.

46 ඉක්බිති මහාබොධීතොමෝ සූර්‍ය්‍යා අස්තංගතවන කල්හි
රෙහෙණ නකතින් පෘථිවියෙහි පිහිටියා, පොළවද කම්පිත
47 විය. (පෙර කියනලදවූ) ඒ මූල් කටාරම් මුවව්වෙන් උඩ
නැගී ඒ රන්බඳන වෙළාගණිමින් පොළෝතලට බැස්
48 සාහ. රැස්වූ සියලු ජනයෝ පිහිටියාවූ මහාබොධිය හාත්
49 පසින් සුවඳමල් ආදිවූ පූජාවස්තුවෙන් පිදූහ. මහාමෙඝය
තෙමේ වැස්සේය, හාත්පසින් හිමගැප්හා සිහිල් වලාවෝ
50 මහාබොධිය වැසූහ. මහබෝතොමෝ සත්දිනක් දැකුම්
රහිතවූවා ජනයා කෙරෙහි ප්‍රසාද උපදවන්නී එම හිමගැ
51 බෙහි වැඩසිටියාය. සත්දවස ඇවෑමෙහි ඒ සියලු මේඝ
52 යෝ පහව ගියහ, සවණක් රැස්හා මහබෝතොමෙ ද පෙ
ණීන, මහාමහෙන්ද්‍රස්ථවිරයන්වහන්සේද සඞ්ඝමිත්‍රා නම්
භික්ෂුණීතොමෝද, පිරිස් සහිතව එහි සම්ප්‍රාප්තවූහ, පිරිස්
53 සහිත නරේන්ද්‍රතෙමේද පැමිනියේය, කතරගම (නිවාසී
වූ) ක්ෂත්‍රියයෝද, චන්දනග්‍රාම වාසීවූ ක්ෂත්‍රියයෙද තිවක්ක
54 නම් බ්‍රාහ්මණතෙමේද ලක්දිව්වැසි ජනයෙ ද මහබෝ පිදු
මෙහි හටගත් උත්සාහ ඇත්තෝ දෙවියන්ගේ අනුභාව
යෙන් ආවාහුය. ප්‍රාතිහාර්‍ය්‍ය කරණකොටගෙණ විස්මයට
55 පත්වූ ඒ මහා සමාගමෙහි (ජනයන්) බලාසිටියදී පැදුම්දිග
ශාඛාවෙන් වැටෙන්නාවූ විලිතුම් බෝපලය ස්ථවිරයන්
56 වහන්සේ රැගෙණ රොපණය කරණ පිණිස නරේන්ද්‍රයා
නන්ට දුන්සේක, සුගන්ධ ද්‍රව්‍ය මිශ්‍රවූ පසින්පිරූ රන් කටාර
57 මක් මහාසනස්ථානයෙහි තැබූකල්හි, ඒ බොපලය නරේන්ද්‍ර
තෙම රොපණය කෙළේය, සියල්ලන් බලාසිටියදීම අඞ්කුර
58 අටක් නැගී තරුණ බෝරුක්වූවෝ සතරරියන් පමණව
සිටගත්හ, ඒ තරුණ බෝරුක් දැක විස්මයට පත්වූ සිත්
ඇති නරේන්ද්‍රතෙම සේසතින් පිදූයේ අභිෂෙකයද දුන්
නේය.

59 ඒ අටක් තරුණ බොධිවෘක්ෂයන් අඹකොළ පටුනෙහි
60 එකල නැවින් ගොඩනැගී මහාබොධිය පිහිටිතන්හිද, තිව

ක්ක බ්‍රාහ්මණයාගේ ගම්හිද, එසේම ථූපාරාමයෙහිද, ඉසුරු
61 මුනි විහාරයෙහිද, පළමුවෙනි සෑමලුවෙහිද, සෑගිරි අරමෙ
62 හිද, එසේ ම කතරගම්හිද, සඳුන්ගම්හිද එක එක පිහිට
වූහ, අන්‍යවූ පලසතරින් උපන් දෙතිසක් තරුණ බෝධි
63 වෘක්ෂයෝ දිවසින හාත්පස යොදුනෙන් යොදුන විහාර
ස්ථානයන්හි ලක්දිව් වැසිජනයාගේ වැඩපිණිසම මහා
බෝධි වෘක්ෂය කෙරෙහිවූ සර්වඥයන්වහන්සේගේ තේජස
64 කරණකොටගෙණ පිහිටියහ. පිරිස් සහිතවූ ඒ අනුලාදේවී
තොමෝ සඞ්ඝමිත්‍රා නම් තෙරිනිය සමීපයෙහි පැවිදිව
65 රහත්බවට පැමිණියාය. පන්සියයක් පිරිවරඇත්තාවූ ඒ
අරිට්ඨ නම්වූ ක්‍ෂත්‍රියතෙමේද ස්ථවිරයන් සමීපයෙහි පැවිදිව
66 රහත්බවට පැමිණියේය, යම් අටසිටුකුලයෙක ජනයෝ
මහාබෝධිය මෙහි වඩාගෙණවාහුද, එහෙයින් ඔව්හු
67 බෝධාහර කුලයෝයයි කියනුලබති. උපාසිකා විහාරයයි
ප්‍රසිද්ධවූ ඒ මෙහෙණවරෙහි භික්‍ෂුණී සඞ්ඝයා සහිතවූ ඒ
68 සඞ්ඝමිත්‍රා නම් ස්ථවිරීතොමෝ වාසයකළාය. එහි (චූලඞ්ගන
මහඞ්ගන සිරිවඩ්ඪයයි) මන්දිර තුණක් ප්‍රමුඛකොට ඇත්
තාවූ මන්දිර දොළසක් (නරේන්ද්‍රතෙම) කරවූයේය, ඒ මන්දිර
69 යන් අතුරෙන් එක් මහමැදුරෙක්හි මහාබෝධිය වැඩූ නැව
කුඹ යටිය පිහිටෙවූයේය, එක් ගෙයෙක්හි පළුපත තැබ්බවූ
70 යේය, එකෙක කෙනිපාතය තැබූයේය එයින් ඒ මන්දිරයෝ
ප්‍රකටවූහ. (ධම්මරුචිකාදිවූ) අන්‍යනිකායවූ කල්හිදු ඒ
ගෙවල් දොළසම හත්ථාළ්හක විහාරවාසී මෙහෙණින්නන්
විසින්ම සෑමකල් පරිභොග කරණලදහ.

71 රජහුගේ ඒ මගුලැත්තෙමේ සැපවූ පරිද්දෙන් හැසි
72 රෙන්නේ පුරය එක් පසෙක්හි සිහිල් කඳුරැළියක් අනන
යෙහි හිඟුරුවැල් ලැහැබක්තුළ ගොදුරුකමින් සිටියේය,
73 ඇතා එහි ඇලූනාදැන එහි ඇත්හලක් කළහ, ඉක්බිත්
තෙන් එක්දවසක් ඒ ඇත්තෙම ආහාර නොගත්තේය, ඒ
නරේන්ද්‍රතෙම ලඞ්කාවීපයාගේ ප්‍රසාදකවූ ස්ථවිරයන්ගෙන්
74 ඒ ඇතුගේ සිත කිමෙක්දැයි විචාළේය. "හිඟුරුවැල් ලැහැ
බෙහි ථූපයක් කිරීම ඇත්තෙම අභිමත කෙරෙයි" මහාස්ථ
75 විරතෙම මහරජහට වදාළසේක. සතතයෙන් ජනයාගේ වැ
ඩෙහි ඇලූනාවූ නරේන්ද්‍රතෙම එහි ධාතුසහිතවූ ථූපයක්හා
76 ථූපයට (සුදුසු) ගෙයක්ද වහාම කරවූයේය. නුවනැත්තාවූ
77 සඞ්ඝමිත්‍රානම් ඒ මහාස්ථවිරීතොමෝ තමන් වසනවිහාරය
ජනයන්ගැවසීගත් හෙයින් ශූන්‍යාගාර විහරණයෙහි අභි
ලාසාඇත්තී ශාසනයාගේ අභිවෘද්ධිය පතන්නී මෙහෙණින්

78 නන්ට වැඩපිණිසද අනන්‍යවූ මෙහෙණවරක් පතන්නී අනී සයින් විවේක සැපඇත්තාවූ යහපත්වූ ඒ චෛත්‍යම්ඬිර
79 යට පැමින ආයෂී විහරණයෙහි දක්‍ෂව නිර්මලවූවා ඒවාවිහර ණය කළාය, පණ්ඩිතවූ රජතෙම තෙරිණිය වඳනා පිණිස
80 මෙහෙණි අසපුවට ගොස් තෙරිණිය එහි වැඩියා අසා එහි ගොස් ඒ තෙරිණිය වැඳ ඒ තෙරිණින්ගා සතුටුව එහි ඊමේ
81 කාරණයවූ ඒ තෙරිණියගේ අභිප්‍රාය කිමෙක්දැයි අදහස් දත්තේ, අභිප්‍රාය දන්නාවූ ඒ දෙවන පැතිස් මහරජතෙම
82 ථූපම්ඬිරය හාත්පස සිත්කලුවූ මෙහෙණි අසපුවක් කරවූයේය, ඇත්හල සමීපයෙහි කරවනලද්දවූ ඒ මෙහෙණින්
83 නන්ගේ අසපුවතෙම එහෙයින් හත්‍ථාළ්හක විහාරයයි ප්‍රසිඬවූයේය. මහත් ප්‍රඥාසම්පන්න සුමිත්‍රවූ ඒ සඬ්ඝමිත්‍රා නම් මහ තෙරිණීතොමෝ රම්‍යවූ ඒ මෙහෙණි අසපුවෙහි වාසය
84 කළාය.

මෙසේ ලඞ්කාවාසී ජනයාගේ වැඩද ශාසනාභිවෘද්ධියද මනාකොට සිඬකරන්නාවූ මේ මහාබොධිද්‍රැමෙන්ද්‍රතෙම ලඞ්කාද්වීපයෙහි රම්‍යවූ මහමෙවුනා වනයෙහි නොයෙක් අද්භූතයන්ගෙන් යුක්තව දීර්ඝකාලිකව පිහිටියේය.

මෙතෙකින් හුදීජනයා පහන් සංවෙග පිණිස කළ මහ වංස බොධිආගමන නම්වූ එකුන්විසිවන අදියරනිමි.

---

# 20 වෙනි පරිච්ඡේදය.

1 දම්සෝ රජහට අටළොස්වන හවුරුදුයෙහි මාමෙවුනා
2 උයන මහාබෝ පිහිටියාය. එයින් දෙළොස්වන හවුරුදු යෙහි ඒ දම්සෝ රජහුගේ මෙහෙසිවූ රතනත්‍රයමාමක
3 අසන්ධිමිත්‍රා නම් බිසව් කළුරියකළා, ඉන් සතරවන හවුරු දුයෙහි දම්සෝ රජතෙමේ විසම අදහස්ඇති තිස්සාරක්ඛා
4 නම් කුමරියක් බිසෝබැව්හි තැබූයේය. ඉන් සතරවන හවුරුදුයෙහි රුවින්මත් ඒ බාලබිසව් “මේ රජතෙමේ
5 මටත්වඩා මහාබොධිය මමායනය කෙරේ”යි කියා ක්‍රොධ වසයට පැමින තමහට අවඩකරනනී මඬුකටු (විස) යෙදී
6 මෙන් මහාබොධිය මැරවී. ඉන් සතරවන හවුරුදුයෙහි මහායසස්ඇති දම්සෝ රජතෙමේ අනිත්‍යබවට පැමිනි යේය; මේ සතිස් හවුරුදුයි.

7 දහම් ගුණෙහි ඇළුනු දෙවෙනි පෑතිස්රජ වනාහි මහ
8 වෙහෙර නවකම්ද එසේම සෑගිරිගල නවකම්ද, ථූපාරාම
යෙහි නවකම්ද සුදුසු පරිද්දෙන් නිමවා විචාරණලද්දහට
9 ප්‍රත්‍යුත්තරයෙහි පණ්ඩිතවූ දීපප්‍රසාදක තෙරුන් විචාරත්
තේ, “වහන්ස මම මෙහි බොහෝ විහාරයන් කරවන්නෙම්
ඒ විහාර ථූපයන්හි තබනු පිණිස කෙසේ ධාතුලබම්දැ” යි
විචාළේය.

10 “මහරජතෙමෙනි සම්මාසම්බුදුන් පයපූරා සුමණ සාමණේර
යන් විසින් මෙහි ගෙණෙනලද්දවූ ධාතුහු සෑගිරියෙහි තැබූ
11 වෝ ඇත්තාහ. ඇත්කඳ තබා ඒ ධාතූන් මෙහි වඩා එව” යි
තෙරුන් විසින් වදාරණලදුයේ එසේම ධාතු වැඩූයේ යොදු
12 නෙන් යොදුන් තැන්හි විහාරකරවා ඒ දාගැබ්හි සුදුසු
13 පරිද්දෙන් ධාතු නිධානකරවී. බුදුන් විසින් වළඳනාලද පය
14 වූකලී යහපත් රාජවස්තුගෘහයෙහි තබාගෙණ නානා පූජා
15 යෙන් හැමකල් පිදූයේය.—පන්සියයක් ඉසුරන් විසින්
මහතෙරහු වෙත පැවිදිව විසූ තැන්හි කළ වෙහෙර ඉසුරු
16 මුනි නම් විය. එසේම පන්සියයක් වෛශ්‍යයන් විසින් තෙර
හුවෙත පැවිදිව විසූ තැන කළ වෙහෙර වෙස්සගිරිනම්
වී. මිහිඳුමහතෙරුන් විසින් යම් යම් ගුහායෙක වසනලද
17 නම් පර්වතවිහාරයන්හි ඒ ඒ ගුහා මිහිඳුගුහා නම්වී.

පළමුකොට මහවෙහෙරද දෙවෙනිව සෑගිරියද තුන්
18 වැනිව ථූපය පෙරටුකොටඇති යහපත් ථූපාරාමයද සතර
වැනිව මහබෝ පිහිටුවීමද පස්වැනිව මහසෑතන්හි සෑබිමට
19 යහපත් ගල්ටැඹ මොනවට පිහිටුවීමද බුදුහු ග්‍රීවාධාතුව
20 පිහිටුවීමද සවෙනිව ඉසුරුමුනි විහාරය පිහිටුවීමද සත්
වැනිව තිසාවැවද අටවැනිව පළමු සෑයද නවවැනිව
වෙස්සගිරි විහාරයද මෙහෙණින්නන් ඵාසුපිණිස රම්‍යවූ
21 උපාසිකා වෙහෙරහා එසේම හත්ථාළ්හකය යනමේ මෙහෙ
ණවර දෙකද හත්ථාළ්හක නම් මෙහෙණවර බැස භික්ෂු
22 සඞ්ඝයා කැටිව මෙහෙණින්නන්ට බත්ගන්නා පිණිස
23 මනා උපහාරඇති සියලු උපකරණයෙන් යුත් එලඹසිටි පිරි
24 වර ජනයාඇති මහාපාළි නම් බත්හලද එසේම භික්ෂූන් ද
25 හසකට අවුරුදුපතා පිරිකර සහිතවූ උතුම් පවාරණ දානයද
26 නාගදීවසිත දඹකොල වෙහෙරද එම පටුන්හි තිස්සමහා
විහාරයද පාචීනාරාමයද යනමේ කම්මාන්තයන් ලඞ්කා
27 වාසී ජනයාහට වැඩකැමැත්තාවූ පින්පැණ ගුණඇති ල
ඞ්කෙන්ද්‍රවූ ඒ දෙවෙනි පෑතිස් රජතෙමේ පළමුවෙනි හවුරුදු
යෙහිම කරවී. ගුණයෙහි ප්‍රියවූ ඒ රජතෙමේ දිවිහිම්යෙන්

28 නොයෙක් පින්කම් කෙළේය, ඒ රජහුගේ විජිතවූ මේ
දිවයින පිනාගියේය. ඒ රජතෙමේ සම සතළිස් හවුරුදුක්
රාජ්‍යය කෙළේයි.

29 ඒ රජහු ඇවෑමෙන් උහු මල් උත්තියයි ප්‍රසිද්ධවූ රජකුමර
30 අපුත්‍රක රාජ්‍යය මොනවට කරවී. ඒ මහාමහෙන්ද්‍රස්ථවිර
වනාහි පර්‍ය්‍යාප්ති ප්‍රතිපත්ති ප්‍රතිවෙධ යන උතුම්වූ බුදුසස්න
31 මොනවට ලක්දිව්හි බබුළුවා ලඞ්කාවට දැදිපයක් බඳුවූයේ
මහාසමූහඇතෙත් ලක්දිව බුදුන්වැනිවූයේ බොහෝ ලෝ
32 වැඩකොට ඒ උත්තිය රජහුගේ රාජාභිෂෙකයෙන් අටවැනි
ජයවර්‍ෂයෙහි සැටවස් පිරුණුසේක් වස්සාන මාසයන්හි
33 සෑගිරියෙහි (විසූසේක) වෙසෙමින් වප්මස ශුක්ලපක්‍ෂයෙහි
අටවක් දවස් විපවර්‍ත්තයට හේතුවූ මහෙන්ද්‍රස්ථවිරතෙමේ
34 පිරිනිවන් පෑසේක. අටවක් දවස්හි මහෙන්ද්‍රස්ථවිරයන් පිරි
35 නිවි කරුණෙන් දවසද අටවකදැයි සම්මතවී.

ඒ අසා උත්තිය රජතෙමේ සෝකනැමැති හුලින් පහරණ
36 ලදුයේ සෑගිරි ගොස් තෙරුන්වැඳ නොයෙක්වර නො
යෙක් පරිදෙවුන් හඬා සුවඳතෙල් පූරවනලද රන්දෙණක
37 මහාස්ථවිරදෙහය බහා මොනවට වසනලද ඒ දෙණ අල
38 ඞ්කෘත රුවන්කුළුගෙයෙක්හි තබ්බවා කුළුගෙය ගෙන්වා
ගෙණ සාධුක්‍රීඩා කෙළවමින් ඒ ඒ දිගින් ආ මහත් ජනසමූ
39 හයා හා කැටිව මහත්වූ හටසමූහයා ලවා පූජාවිධාන කරව
මින් සැරහූ මගින් නොයෙක් අලඞ්කාරයෙන් සරහනලද
40 නුවරට ගෙණවුත් නුවර රාජවීථින්හි හසුරුවා මහවෙහෙ
41 රට ගෙණවුත් මෙහි පැණ්ඹ මළුවෙහි කුළුගෙය තබ්බවා
සත්දිනක් ඒ මිහිපල්තෙමේ තොරන් කොඩිමාලා හා ගන්ධ
42 පූර්ණ ඝටයෙන්ද විහාරයත් අවට තුන්යොදනකුත් රජහුගේ
43 ආනුභාවයෙන් සරහනලදුයේ වීය. එසේම මුළු ලක්දිව
දෙවියන්ගේ ආනුභාවයෙන් සරහනලදේදේ වීය. ඒ මිහි
පල්තෙමේ සත්දවසක් මුළුලෙලෙහි නානාප්‍රකාර පූජා සත්
44 කාර කරවා පූර්‍ව දිසාභාගයෙහි තෙරුන්ගේ බද්ධමාලක
45 නම් තැන සුවඳ දරසෑයක් කරවා මහසෑයප්‍රදක්‍ෂිණ කෙරෙ
මින් මනරම් කුළුගෙය එහි පමුනුවා දරසෑයෙහි තබ්බවා
46 අන්තිම සත්කාරය කෙළේය. ධාතූන් ගන්වා මෙහි සෑයක්ද
කරවී. ක්‍ෂත්‍රියතෙමේ ධාතුභාගයක් ගන්වා සෑගිරිවෙහෙ
47 රද සියලු විහාරයන්හිද සෑ බැඳවී. ඒ සාමිහුගේ ශරීරය
48 බැහූ තැන අවකාසයද බුහුමනින් ඉසිභූමඟන නමැයි කිය
නලදී. එතැන් පටන් එය සිසාරා තුන්යොදුන් මානයෙහි
49 කළුරියකළ ආර්‍ය්‍යයන්ගේ ශරීර ගෙණ ඒ පෙදෙස්හිදී දවනු
ලැබේ.

එසේම මහත් අභිඥාහා ප්‍රඥාඇති සඞ්ඝමිත්‍රා නම් මහාස්ථ
50 විරීතොමෝ සසුන් හිසද බොහෝවූ ලෝවැඩද කොට
51 එකුන් සැටවස් ඇතාති උත්තිය නම් එම රජහුගේ නවවෙනි
ඛෙම නම් හවුරුදුයෙහි ඇතාළ නම් මෙහෙණවර වසන්නී
52 පිරිනිවන්පෑවාය. රජතෙමේ ඒ මෙහෙණීන්ටද තෙරුන්ට
සෙයින් සත්දවසක් මුළුලෙලෙහි උතුම්වූ පූජාසත්කාර කෙ
ළෙයි. මහතෙරහුවන්ට සෙයින් සකල ලඞ්කාවීපය අල
53 ඞ්කාර කරණලද්දේ වී. කුළුගෙයෙහි නගණලද තෙරණී
සිරුර සත්දවසක් ඇවෑමෙන් නුවරින් පිටත්කොට ථූපා
54 රාමයට නැගෙණහිරින් චිත්‍රසාලා සමීපයෙහි මහාබොධි
55 උපාශ්‍රයෙහි තෙරණී විසූතැන ගිනිහිස කරවී. ඒ උත්තිය
මිහිපල්තෙම එහි සෑයකුදු කරවී.

56 මහෙන්ද්‍රස්ථවිරාදී ඒ පස්මහතෙරහුද අරිෂ්ටස්ථවිරාදීහුද
එසේම නොයෙක් දහස්ගණන් භික්ෂූහුද සඞ්ඝමිත්‍රාව ප්‍රධාන
57 කොටඇති ඒ දොළොස් තෙරණීහුද බොහෝ දහස් ගණන්
රහත් භික්ෂුණීහුද බොහෝ ඇසූපිරූතැන් ඇත්තාහු මහ
58 පැණ ඇත්තාහු විනයාදී බුඬාගම බබුළුවා සුදුසුකල අනි
ත්‍යතා වසඟයට ගියෝයි. ඒ උත්තිය රජතෙමේ දසහවු
රුදුක් රජකම් කෙළේය මෙසේ මේ අනිත්‍යතාතොම සක
ල ලෝකය නසන්නීය.

59 අනිශයින් ලාගෙලා ක්‍රියාකරන්නාවූ ඉතා බලඇති වල
කාලිය නොහෙනනාවූ ඒ මේ අනිත්‍යතාව යම් මිනිසෙක්
තෙමේ දනෙන්ම සසර ගමන්හි කලනොකිරේද, කලකිරූ
ණේත් පාපයෙන් තොරවීමත් පින්හා ඇල්මත් නොකො
රේද; දනිම්න්ම දූඞ්යේ මුළාවේයයි යන මෝතොමෝ ඔහු
ගේ අධික මෝහරාසියෙහි බලබවයි.

මෙතෙකින් හූදිජනයා පහන් සංවෙග පිණිස කළ මහා
වස ථෙරපරිනිබ්බාණ නම් විසිවෙනි අදියර නිමි.

---

# 21 වෙනි පරිච්ඡේදය.

1 ඒ උත්තිය රජු ඇවෑමෙන් ඔහු කිස්දෙවුන්මල් මහාසීව
රජ සුදනන් සෙවුනේ දසහවුරුදුක් රජය කෙළේය. ඒ
2 රජතෙමේ හඳුසාල තෙරුන් කෙරේ පැහැද සිත්කළුවූ
නගරඟන විහාරය පෙරදිග කරවී.

3 මහාසීව රජු ඇවෑමෙන් උහුමල් සූරතිස්ස රජතෙමේ කුසලකරණයෙහි ගෞරවඇතෙත් දසහවුරුද්දක් රජය
4 කෙළේය. ඒ රජ දකුණුදිග නගරගන නම් විහාරය කරවී.
5 නැගෙණහිර ඇත්කඳ විහාරයද ගොණගලද වඞ්ගුත්තර පර්වතයෙහි නැගෙණහිරිපව් නම් විහාරයද එසේම රේ
6 හෙරඅමුණු සමීපයෙහි කොලම්බාලක විහාරයද රිටිගල සමීපයෙහි ලම්බකාරාමයද නැගෙණහිරි වලස්ගලද නුවරට
7 උතුරින් ගිරිනිල්පනාකඩද පෘථිවීශ්වරතෙමේ මේආදී රම්‍ය වූ පන්සියයක් විහාරයන් ලක්දිව ඒ ඒ තැන ගඟින් එතරත්
8 මෙතරත් රජවීමෙන් පූර්වයෙහිත් පසුවත් සැටහවුරුද්දක්
9 මුළුල්ලෙහි මොනවට දැහැමින් කරවී. තුනුරුවන් කෙරෙහි ගෞරවඇති ඒතෙමේ සුවණ්ණ පිණ්ඩතිස්සයයි රාජ්‍ය යෙන් පූර්වයෙහිදී නම්ඇතිවිය; රාජ්‍යයෙන් පසු ඒ රජහු නම සූරතිස්සයයි වී.
10 මහත් බලඇති සේනය ගුත්තිකය යන අස්නැව් පුතුන්
11 දෙදෙනෙක් ඒ සූරතිස්ස රජහු ගෙණ දෙවිසිහවුරුද්දක් දැහැමෙන් රාජ්‍යය කරවූය.
ඉක්බිති එක්කුස හොත් බෑයන් අතුරෙන් නවවැනි
12 සහෝදරවූ ඒ මූටසීව රජහු පුත් අසේල කුමර ඒ දෙදෙනා ගෙණ අනුරාපුරෙහි දසහවුරුද්දක් රාජ්‍යය කරවී.
13 ඍජුස්වභාඇති එළාර නම් දෙමළතෙමේ රාජ්‍යය පිණිස
14 සොළීරටින් මෙහි අවුත් අසේල රජු අල්වාගෙණ සතළිස් සතර හවුරුද්දක් රාජ්‍යය කෙළේය. රජතෙමේ විනිශ්චය කාලයෙහි සතුරන් කෙරෙහිත් මිතුරන් කෙරෙහිත් මධ්‍ය
15 ස්ථ වී. ඇඳඉස පසෙක ඉතාදික් යොතකින් විනිශ්චය කැ
16 මැත්තවුන් විසින් හඬවනු පිණිස මිණියක් එල්විය. ඒ රජ හුගේ එක් පුතෙක්ද දුවක්ද වූහ; ඒ කුමරතෙමේ රථ නැ
17 ගී තිසාවැවට යනෙනා මවුසමග මග හොත් ඉතා තරුණ වස්සෙකු රියසකින් බෙලල ඇක්ම නොදැන මැරූයේය. ඒ
18 දෙන්තොමෝ තිපිසිත්ඇතාති ගොස් ඒ මිණිගෙඩිය ගැසූ වා. රජතෙමේ ඒ චක්‍රයෙන්ම පුත්‍රයාගේ හිස සිඳවී.
19 තල්රුකෙක (කැදැල්ලෙක හුන්) ලිහිණි පැටියෙක් එක් සර්පයෙක් කෑයේය. ඒ පැටියාගේ මවු ලිහිණිතොම මිණි
20 ය ගැසූවා. රජතෙමේ ඒ සර්පයා ගෙන්වා උගේ බඩපලා ඒ පැටියා බැහැර දමා තල්ගස ඇණ ගැස්වී.
21 උතුම් තුනුරුවන්ගේ රත්න බවත් එහි ගුණසාර බවත් නොදනනාවූම ඒ රජතෙමේ චාරිත්‍ර රක්ෂාකෙරෙමින් සෑගිරි
22 යට ගොස් භික්ෂු සඞ්ඝයා පවරා එමින් රථයෙහි හුනෙන් රථ

23 යාගේ වියගස කොණින් බුදුසෑයෙක එකදෙසයක් බුනෙන්
ය. අමාත්‍යයෝ තුමූ රජහට "දේවයෙනි අපගේ සෑයතෙමේ
24 ඔබවිසින් බිඳිනාලදැ" සි කිවූය. මේ රජතෙමේ නොදැන
කළ දෙයෙහිත් රථයෙන් බැස "චක්‍රයෙන් මාගේ හිසද
25 සිඳිව්ය" සි මග හොවනත්ය "මහරජානෙනි අපගේ ශාස්තෘ
තෙමේ පරහිංසා නොකමැතිසේක, සෑය පියවිකොට කමාක
26 රවුව මැනව" සි ඔහුට කිවූය. එහි හූනු පසළොසක් පමණ
ගල් (පියවිකොට) තබන්ට පසළොස් දහසක් කහවණු
දුනෙන්ය.

27 එක් මැහැලලක්තොමෝ වී වේලන්ට අවෙව්හි දැමූවා.
28 නොකල් වැසෙසක් වැස ඒ වී තෙමූයේයි. ඕතොමෝ වී
ගෙණගොස් ඒ මිණිය පහළා. ඒ අකල්වැසස අසා මැහැලී
29 යවා "රජතෙමේ දහම්හි වැටෙනොන් සුදුසුකල වර්‍ෂාව ලබා
ය" සි ඇයගේ බස විනිශ්චය කරණු පිණිස පෙහෙව
30 හොත්තේය. බිලියම් ගන්නා දෙවපුත්‍ර රජහු තෙදින්
මඩනා ලද්දේ සතරවරම් මහරජුන් වෙත ගොස් එපවත්
31 දැන්වීය. ඒ දෙවියෝ උහු ගෙණ ගොස් ශක්‍රයහට දැන්වූය.
ශක්‍රතෙමේ වැසවලාහකයා කැඳවා කාලවර්‍ෂණය ආඥාකෙ
32 ළේය, බිලියම්ගන්නා දෙවපුත්‍ර රජහට එපවත් දැන්වීය.
33 එවක් පටන් ඒ විජිතයෙහි දහවල් වැසි නොවටුයේය.
වර්‍ෂාවතෙමේ සතියෙක් සතියෙක්හි රෑ මැදියම වැස්සේය
සෑම තන්හි කුඩා වලද (වැසිදියෙන්) පිරුණේය.

34 නොතසනලද මිථ්‍යාදෘෂ්ටි ඇතෙත්ද, මේතෙමේ අගති
ගාමී ද්වේසයෙන් මුක්තබැවින් මෙවැනි මහිමයට පැමිනි
යේය; සම්‍යක්දෘෂ්ටි ඇත්තාවූ මේලෝකයෙහි උපන් නුව
නැතිම්නිස්තෙමේ අගතිගමන් ද්වේසය කෙසේනම් නො
හරණේද.

මෙතෙකින් හූදිජනයා පහන් සංවෙග පිණිස කළ මහ
වස පවරාජක නම් එක්විසිවන අදියර නිමි.

---

# 22 වෙනි පරිච්ඡේදය.

1 එලාළරජු මරවා දුටුගැමුනු කුමර රජවී. ඒබව ප්‍රකාශ
2 කරණ පිණිස මෝතොමෝ පිළිවෙළකථායි. දෙවෙනි පෑ
තිස්ස රජහුගේ දෙවෙනි සහොදරවූ මහානාගනම්වූ එමරජ
3 හට ප්‍රිය යුවරජකෙනෙක්වී. රජහුගේ බිසව් නැණහීනවූවා

සියපිත්හට රජයකැමැත්තා, නිරන්තරයෙන් යුවරජු මරණු
4 පිණිස හටගත් සඞ්කල්පනා ඇත්තී, වලස්වැව කරවන
එම යුවරජහට විෂයෙන් යෙදූ අඹයක් අඹමතුයෙහි තබා
5 යැව්වාය. ඒ බිසවුන් බාලපුත්‍රතෙමේ යුවරජුහා ගියේ භාජ
නය විවෘතකළ කෙණෙහිම ඒ අඹය කා මෙළේය.
6 යුවරජතෙමේ එසින්ම ඇතොවුරන්හා බලවාහන සමග
7 සියදේහය රක්නට රුහුණබලා ගියේය. ඒ යුවරජුගේ
ගැබ්ගත් මෙහෙසීතොම යටාලවෙහෙරදී පිතෙකු වැදුවා.
8 යුවරජ පුතුට බෑයානම් කෙළේය. ඉක්බිති ඒ ක්‍ෂත්‍රියතෙමේ
රුහුණුගොස් මුළු රුහුණුරට ඊශ්වරවූයේ, මහත් සම්පත්
9 ඇතිව මාගම්හි වෙසෙමින් රජයකෙළේය. ඒ තෙමේ සිය
නම්ඇති නාගමහාවිහාරය කරවීය; උඬුකඳුරු ආදිවූ තවත්
බොහෝ විහාරද කරවී.
10 එසේම ඒ මානාරජු ඇවෑමෙන් උහුපිත් යටාලතිස්ස
තෙමේ රජය කෙළේය. ඒසේම උහුපිත් අභයතෙමේද
11 රජය කෙළේය. ගෝඨාභය පිත් කාවන්තිස්සයයි ප්‍රසිඬවූ
ක්‍ෂත්‍රියතෙමේ පියරජු ඇවෑමෙන් එහි රජය කෙළේය.
12 ශ්‍රඬාඇති ඒ රජහට කැලණිරජහුගේ දූවූ විහාරදේවී
13 නම්වූ ශ්‍රඬාසංපන්න කුමරියක් මහේසිකාවිය. කලණි
නගරයෙහි රජවූ තිස්සනම් ක්‍ෂත්‍රියයෙක්වී; මුත්තාසේ උත්
14 තිය නම් ඇති ඒ කුමර දේවියහා සංයොගයෙන් හටගත්
වනලද කෝපඇතොත්, භයින් එතැනින් පලාගොස් අන්
15 තැනෙක විසීය; එසින් ඒ පෙදෙස ඒනම්වී. ඒ ආර්‍ය්‍යඋත්තිය
තෙමේ දේවියට රහස් ලියමන්දී මහණවෙස්ගත් මිනිසෙක්
16 යැවීය. ඒතෙමේ රජගෙදොර සිටියේය. රජගෙහි සැමදා
වලදන රහත් තෙරණුවන්හා අප්‍රසිඬයේ රජගෙට වන්
17 නේය. තෙරුන්හා ආහාරගෙණ රජුහා පිටත්වනකල
18 දේවිය බලාහින්දදී ලියුම්පත බිම හෙළීය. ඒ ශබ්දයෙන්
රජතෙමේ පෙරලා බලමින් ඒ ලියුම්හස්න දැන තෙරුන්ට
කිපියාවූ මුග්ධ මනස්ඇතොත්, ඒ තෙරුන්හා ඒ මිනිසා
19 ක්‍රොධයෙන් මරවා මුහුද දැම්මවීය. එසින් දෙවියෝ කිපී, ඒ
20 රට මුහුදෙන් යටකළෝය. ඒ රජතෙමේ මනාරූඇති යශ
21 පත් ආචාරඇති දේවී නම් සිය දියනියත් රන්සැලෙක හිඳු
22 වා (එහි) රජදුවයයි ලියා සමුදුරම යුහුව යැව්වේයි. මුහුද
බඟාලනලද ඒ සැල එසින් ගොස් රුහුණුරට ලඬකාවිහාර
යෙහි ගොඩබට්වූයේය. ඒ කුමරිය කාවන්තිස් රජතෙමේ
23 (මෙහෙසී බැව්හි) අභිෂෙක කෙළේයි. එහෙයින් විහාර
යතු උපපද නම්වී (විහාරමහදේවීයයි නම්වී.)

තිස්සමහාවිහාරය එසේම සිතුල්පව්ව ගම්ඨවාලිය කුටා
24 ලිය යනමේ ආදිවූ විහාරයන් කරවා තුනුරුවන් කෙරෙහි
මනා පහන්සිතින් ඒ රජතෙමේ හැමකල් සඞ්ඝයාට සිවු
පසයෙන් උපස්ථාන කෙළේය.

25 එකල්හි කොටගල නම් විහාරයෙහි සීලයෙන් ව්‍රතයෙන්
යුක්තවූ හැමකල් නානාප්‍රකාර පින්කම් කරන්නාවූ සාම
26 ණේරකෙනෙක් විසූයේය. ඒතෙමේ අහස් සැම්දුලට සුව
සේ නැගෙණු පිණිස හිනි තුනක් හා ගල්ලෑහැලිද තැබූ
27 යේය. පැන් දන්දුනෙත්ය; සඞ්ඝයාට වත්ද කෙළේය; හැම
කල්හි ක්ලාන්තවූ දේහඇති ඔහුට මහත් ආබාධයෙක් විය.
28 කෙලෙහිගුණ දන්නා භික්ෂූහු සිවිගෙයකින් උහු ගෙණවුත්
29 තිස්සාරාමයෙහි සිලාපස්සය පිරිවෙන්හි (තබාගෙණ) උප
ස්ථානකළෝයි. ඒ විහාරදේවිතොම සංහුනනා මොනවට
30 සකස්කළ රජගෙයි පෙරබත සඞ්ඝයාට මහදන් දී පසුබත
ගඳමල් හා බෙහෙත්ද පිළිද ගෙන්වාගෙණ ආරාමයට ගියා
31 සුදුසු පරිද්දෙන් සත්කාර කළාය. එකල්හි ඒ බිසව් පෙරහේ
දන්දී සඞ්ඝස්ථවිරයන් වෙත හිඳහන්නාය, ස්ථවිරතෙමේ ඒ
32 බිසවට දහම්දෙසමින් මේවදාළසේක. "මේ මහාසම්පත්
තොමෝ පින්කමින් ලබනලද්දිය. දැනුදු පින්කම්හි තොප
විසින් අප්‍රමාදයම කටයුතෙන්ය"

33 මෙසේ වදාළකල්හි ඕතොමෝ "මෙහි මේතෙමේ කවර
34 සම්පත්තියෙක්ද යම්බඳුවූ අපට දරුවෝ නැත්තාහු නම් ඒ
කාරණයෙන් අපගේ සම්පත් වඳය"යි කීවාය. ෂඩ්අභිඥ
ඇති මහාස්ථවිරතෙමේ පුත්‍රලාභය බලා "දේවිනි ඒ ගිලන්
35 හෙරණුහු දකිව"යි වදාළසේක. ඒ බිසව් ගොස් මරණ
සන්නාවූ ඒ හෙරණුන්දෑට "මාගේ පුත්බැව් පැතුව මැනව
36 අපගේ සම්පත් මහත්ය"යි කීවාය. නොකැමැතෙත්යයි
දැන ඒ හෙරණුන්දෑ සඳහා මහත්වූ යහපත් මල්පූජවක්
37 කරවා මනා පැණඇතත් නැවතත් යාච්ඤාකළාය. මෙසේද
නොකැමැත්තාවූ හෙරණුහු පිණිස උපායෙහි පණ්ඩිතවූ ඒ
බිසව් නොයෙක් බෙහෙත්හා වස්ත්‍රයන් සඞ්ඝයා විසයෙහි
දන්දී නැවතත් ඒ හෙරණුහු යාච්ඤාකළාය.

38 ඒ තෙමේ රජකුලය පැතුයේය. ඕතොමෝ එතැන නො
39 යෙක් පරිද්දෙන් අලඞ්කාරකරවා වැඳ යානාවට නැඟී ගි
40 යාය. සාමණේරතෙමේ එයින් චූතව යන්නාවූ ඒ දේවියකුස
පිළිසිඳගත්තේය. ඒ දැන ඕතොමෝ නැවැත්තාය. ඒ හස්න
රජහට දන්වා රජුහා පෙරලා ගියාය. ඒ දෙනනාම හෙර
41 ණුහුගේ ශරීරයට කටයුතු (වූ ආදාහනාදිය) කරවා සන්

සුත් සිත්ඇත්තෝ ඒ පිරිවෙන්හිම වසනාහු හැමකල්හි
42 භික්ෂුසඞ්ඝයාහට මහදන් දුන්නෝයි. මහපින්ඇති ඒ දේවි
යට මෙබඳු දොළෙක් ඇතිවී. ගොණෙකු පමණ මීයක්
43 ඉඳුර තබාගෙණ තොමෝ දකුණැලයෙන් යහපත් සයන
44 යෙක හොත්තී දොළොස් දහසක් භික්ෂූන්ට දත් දී ශේෂවූ මී
වලඳනු කැමැතිවූය. වැලි එලාළ රජහුගේ යොධයන් අතු
45 රෙන් ශ්‍රේෂ්ඨයාගේ හිස්සුන් කඩුව දෙවි-ැත් එම සූත්
හිසෙහි හිඳගෙණ බීපියන්ටත් අනුරාධ පුරයෙහිම උපුල්
46 කෙනිත් ගෙණෙනලදුවූ නොමැලවූන මල්වඩමක් පල
ඳින්ටත් කැමැතිවී. දේවිතොම රජහුට එපවත් කීවා. රජ
47 තෙමේ නෛමිත්තිකයන් විචාළේය. ඒ අසා නෛමිත්තික
යෝ "දේවියගේ පුත්‍රතෙමේ දෙමළුන් මරා (ලක්දිව) එක්
48 සේසත් කොට ශාසනය බබුළුවන්නේය" යි කිවූය. යමෙක්
තෙමේ මෙබඳු මී ගුළාවක් දක්වන්නේනම් උහුට රජතෙමේ
මෙබඳු සම්පත් දෙන්නේයයි මිහිපල්තෙමේම ප්‍රසිඬකරවී.
49 ගොළුමුහුද වෙරළ සමීපයෙහි මී පිරවූ මුතින් නමාපිය
50 නලද ඔරුවක් දැන දනව්වැසි මිනිසෙක් රජහට කීයේය.
රජතෙමේ දේවිය එහි පමුනුවා මොනවට සකස්කළ මඩු
වෙක්හි (හිඳුවා) රිසිපරිද්දෙන් ඒ බිසව්ලවා මී වැළඳවී.
51 රජතෙමේ ඒ බිසවුන් ඉතිරි දොළ සපයන්ට වේළුසුමන
52 නම් යොධයා මෙහෙයී. ඒ තෙමේ අනුරාපුර ගොස් එහි රජු
මගුලසුගේ අස්ගොව්වා සමග මිතුරුව හැමකල උහුගේ
53 කෘත්‍යයද කෙළේය. ඒ අස්ගොව් යහලුබැව් දැන පෙරවරුම
උපුල්මල් හා කඩුව කොළොම්හෝ තෙර තබා සැකනැත්
54 තේ අසු ගෙණගොස් උහු (පිට) නැගී උපුල්මල් හා කඩුව
ගෙණ (මම කාවන්තිස් රජු වේළුසුමනයෙමි සමත්ථවූයේ
55 මා අල්වා ගණිවයි) තමා දන්වා අශ්වවේගයෙන් පලාගි
යේය. (එළාල) රජ ඒ අසා උහු ගන්ට මහායොධයා මෙ
56 හෙයී. ඒ තෙමේ දෙවෙනි අශ්වයායි සම්මත අසුනැගී ලුහු
බැන්දේයි. ඒ වේළුසුමනතෙමේ ලැහැබක් ඇසුරුකෙළේ
අසුපිටම හිඳගෙණ පිටිපසින් එන්නාවූ උහුට කඩුව හැද
57 දික්කෙළේය. අශ්වවේගයෙන් යන්නාහුගේ හිස සිඳින.
අසුන් දෙන්නාද ඉසද ගෙණ ඒ තෙමේ සවස්වේලෙහි
58 මාගමට එලඹියේය. දේවිතොම ඒ දොළද රිසිසේ වැල
ඳුවා. රජතෙමේ යොධයාහට සුදුසු පරිද්දෙන් සත්කාර
කෙළේය.
59 ඒ බිසව් සුදුසුකල පින්වත් උතුම් පුතෙකු වැදුවා. රජ
කුලෙහි මහත් ආනන්දයද විය. ඒ කුමරහු පුණ්‍යානුභාව

යෙන් එදවස්ම නානා රතනයන්ගෙන් සම්පූර්ණ නැව්
60 සනෙක් ඒ ඒ රටින් අවුය. එම කුමරහු පින්තෙජින් ඇ
තෙක්තෙමේ ඡද්දන්ත කුලයෙන් ඇත්පැටවෙකු ගෙණ
61 වුත් මෙහි තබා පලාගියේය. තොට විල්තෙර පඳුරු අතු
62 රෙහි සිටියාවූ ඒ ඇත්පැටවා දැක කඬුල නම් ධීවරී රජ
63 හට දැන්විය, එකෙණෙහි රජතෙමේ ඇතුන් බඳනවුන්
යවා ඒ ඇත්පැටවා ගෙන්වා පෝසනය කරවී. කඬුල නම්
තැනැත්තාහු විසින් දුටුහෙයින් ඒ ඇත් කඬුල නම්වී.

64 රත්බඳුන් ආදීන් පිරුණවූ නැව් මෙහි ආවාහයි රජහට
65 දැන්විය. රජතෙමේ ඒ ගෙන්වාගතෙත්සි. කුමරහට නම්
තබන මගුල්හි රජතෙමේ දෙළොස් දහසක් භික්ෂුසඞ්ඝයාට
66 ආරාධනා කෙළේය. මෙසේ "ඉදින් මාපිත් මුළු ලක්දිව්
67 තෙලෙහි රජය ගෙණ බුදුසසුන් බබුලුවනෙන්නම් අටතුරා
දහසක් භික්ෂූහුම ප්‍රවිෂ්ටවෙත්වා, ඒ සියල්ලෝ උඩුකුරු
68 කොටගත් පාත්‍රාඇතිව සිවුරු පොරවත්වා, පළමුකොට
දකුණුපය එළිපතින් ඇතුල්කොට තබත්වා, එක් කුඩයකින්
69 යුත් ධබරාව බැහැර ලත්වා, ගොතම නම් ස්ථවිරතෙමේද
පුතු පිළිගණීවා, උන්වහන්සේම තිසරණ පන්සිල් දෙන
70 සේක්ව" යි සිතුයේය. සියල්ල එසේවිය. සියලු නිමිති දැක
තුටුසිත්ඇති මිහිපල්තෙමේ සඞ්ඝයාට කිරිබත් දන්දී පුතුට
71 නම්තබනෙන් මාගම්හි ප්‍රධානබවද සිය පියහු නමද යන
දෙක එකොට ගාමනී අභය කියා නම්තැබුයේය.

72 එයින් නවවන දවස් මාගම් ගොස් දේවියහා සංගමය
73 කෙළේය. ඒ බිසව් ඉන් ගැබ්ගත්තිය. සුදුසුකල උපන්
කුමරහු රජතෙමේ තිස්ස නම් කෙළේය. දරුදෙදෙනා මහ
74 පෙළහරින් වැඩුනෝය. දෙනනාටම බත්කවන මගුල්
දවස්හි සොහඇත්තෙ පන්සියයක් භික්ෂූන්ට කිරිබත් දන්
75 දෙවා උන්වහන්සේලා විසින් අඩක් වැළඳූකල ඉන් සුහ
සුහ ඉල්වාගෙණ රන් තැටියක ලා මිහිපල්තෙමේ දේවිය
76 සමග "දරුවෙනි ඉදින් තෙපි සම්මාසම්බුදුන් සස්න හරිව්
නම් තොපගේ කුසගත මේ ආහාරය නොදිරව" යි ඔවුන්ට
77 දෙවිය. ඒ රජකුමරුවෝ දෙදෙන කීඅර්ථය දැන තුටුසිත්
ඇත්තෝ ඒ කිරිබත අමෘතයක්සේ වැළඳූය.

78 ඒ කුමරුවන් දස දෙළොස් හැවිරිදි කල විමසනු කැමැ
ත්තාවූ රජතෙමේ යටකී පරිදෙදන් භික්ෂූන් වළඳවා උන්
79 වහන්සේලාගේ ඉඳුල්බත තැටියකින් ගන්වා ඒ කුමරුවන්
80 වෙත තබ්බවා තුන්භාගයක් කරවා "දරුවෙනි අප කුල
81 දෙවි භික්ෂූන්ට අපි කලාහිරුණෝ නොවනෙනමුය" යි

සිතා මේ භාගය අනුභව කරව්යසිද "අපි දෙබෑයෝ
82 හැමකල්හි උතුන් අද්‍රෝහ වන්නෙමුය" සි සිතා මේ භාගය
අනුභව කරව්ය" සිද මේ කියේය. දෙනනාම ඒ භාග
වය අමාවක්සේ අනුභව කෙළෝය. "දෙමළුන්හා යුඩ
83 නො කරනෙනාමුය" සි (සිතා) මේ අනුභව කරව්ය" සි මෙසේ
කීකල ඒ තිසසකුමර ආහාරය අතින් දැමීය. ගැමුනු කුමර
84 තෙමේ බත්පිඩ දමා ඇඳට ගියේ අත්පා හකුළුවාගෙණ
ඇඳෙහි වැතිරගතෙත්ය. දේවිය ගැමුනු කුමරු සතුටු කෙ
85 රෙමින් "දරුව අත්පා හෙලා ඇඳෙහි සැපසේ කුම්තින්
නොනිදසිද" සී මෙසේ කීවා ඒතෙමේ "ගඟින් එතර දෙම
86 ළුය මේ දිගින් මහා ගොළුමුහුදය මම කෙසේනම් ප්‍රසා
රිතාඞ්ග ප්‍රත්‍යඞ්ග ඇතිව නිදම්දැ" සි කීයේය. ඒ කුමරනු
87 අභිප්‍රාය අසා මිහිපල්තෙමේ තුෂ්ණීම්භූතවී. ඒ කුමර
ක්‍රමයෙන් වැඩෙනෙප් පින්යෑය් ධෛර්‍ය්‍ය ඇතිව තේජස්
බලපරාක්‍රමයෙන් යුක්තව සොළොස් ඇවිරිදිවිය.
88 සත්‍වයෝ තුමූ සංසාර ගතිය ඉතා චපලකල්හිත් පින්
කරණකොටගෙණ රුචිපරිදෙන් (මනුෂ්‍යාදී) ගතියකට
එළඹිගණිති, නුවනැත්තේ මෙසේ මෙබව දැන කුසල් රැස්
කිරීමෙහි මනත් ආදර හෝ ගෞරව ඇතිවනෙන්ය.

මෙතෙකින් සුදිජනයා පහන් සංවෙග පිණිස කළ මහ
වස ගාමනිකුමාර පසූතිනම්වූ දෙවිසිවන අදියර නිමී.

---

# 23 වෙනි පරිච්ඡේදය.

1 ඒ කඩොලෑත්තෙමේ බල ලක්‍ෂණ රූචින්හා තේජස්
2 ජව ගුණයෙන්ද අග්‍රවූයේ මහාකඳ ඇතිවිය. ඒ ගැමුනු
කුමරහට නන්දිමිත්‍රය සූරනිම්ලය මහාසෝණය ගොඨඹිම්
3 බරය ථෙරපුත්තාභය භරණය වේළුසුමනය එසේම ඛඤ්
ජදේවය පුස්සදෙවය ලභියවසභයසි යන මහා බලඇති මේ
දසමහා යෝධයෝ ඇතිවූහු.
4 එළාල රජහුගේ මිත්‍රනම් සෙනෙවියෙක් ඇත්තේය. නෑ
ගෙණගිරි කඩරෙද (නම් රට) ඒ සෙනෙවියා කළුම්බනාන
5 ගම්හි සිත්පව් සමීපයෙහි බුහුනනියන් පිතෙක්වී. (ඒතෙ
6 මේ) කෝසොහින වත්‍ගුය්හ ඇත්තේ මයිල්හු නම් ඇතිවී.
දුරද බඩගායන ඉතා ළදරු ඒ කුමරහු කටියෙහි චිරපටින්

7 බැඳ ඇඹිරුම් ගල බැන්දේයි. ඕහු ඇඹිරුම් ගල ඇදගෙ
ණ බිම බඩගා යනකල එලිපත ඇක්මිමෙහිදී යම් හෙයකින්
8 වරපට බිඳේද එහෙයින් නන්දිමිත්‍රයයි ප්‍රසිද්ධවී. ඇතුන් දස
දෙනෙකුගේ බලඇත්තේදවී. ඒතෙමේ වැඩුනේ නුවරට
9 අවුත් මසිල්හු උපස්ථානකෙළේය. එකල සෑ ආදියෙහි අසත්
කාර කරණ දෙමළුන් (දැක) ශක්තිසම්පන්න ඒතෙමේ එක්
10 පයකින් කලවය පාගා හස්තයෙන් ඉතිරි කලවය ගෙණ
දෙපළු කොට බැහැරලයි; ඔහු විසින් දමනලද සිරුර දෙව්
11 යෝ අතුරුදහන් කරති. දෙමළුන් අඩුබැව් දැක රජහට
එපවත් දැන්වූය “බඩුසහිත මොහු ගණිව්ය”යි රාජ නියෝග
12 ලද්දාහු එසේ කරන්ට නොහැකිවූහ. ඒ නන්දිමිත්‍රතෙමේ
“මා මෙසේ කරද්දීත් හුදක් ජන ක්‍ෂයමුත් ශාසනය බැබ
13 ළීමක් නැත්තේය, රුහුණුරට තුනුරුවන්හි ප්‍රසන්න රජ
14 දරුවෝ වෙසෙති, එහි ගොස් රාජසේවයකොට සියලු දෙම
ළුන් ගෙණ ඒ ක්‍ෂත්‍රියයන්ට රාජ්‍යයදී බුදුසසුන් බබුළුවන්
15 නෙම්” සිතීය. මේ අභිප්‍රායෙන් ගොස් ගැමුණු කුමරහට එප
වත් ඇස්වීය. ඒ ගැමුණු කුමරතෙමේ මෑතියන් හා මන්ත්‍ර
ණය කොට උහුට සත්කාර කෙළේය. එසේ සත්කාරකරණ
ලද නන්දිමිත්‍ර යෝධතෙමේ කුමරුවෙත විසීය.

16 කාවන්තිස් රජ දෙමළුන් වලකනු පිණිස මහගඟ සියලු
17 තොට හැමකල්ම ආරක්‍ෂා කරවී. රජහුගේ අන්බිසවක
පුත් දීඝාභය නම් කුමරෙක්වී. ගඟායෙහි කසාතොට උහු
18 ලවා ආරක්‍ෂා කරවී. ඒතෙමේ ආරක්‍ෂා පිණිස හාත්පස දෙ
යොදුනෙක්හි (තැන) මහකුලයකින් එක එක පුතෙකු බැ
19 ගින් එහි (කඳයුරට) ගෙන්වීය. කොටවා දනව්වෙහි කඩ
විටි නම් ගම පුතුන් සත්දෙනෙක් ඇති සඞ්ඝ නම්වූ ප්‍රධාන
20 කුලපතියෙක් විය. රජ කුමර පුතෙකු ගෙන්වනු කැමැත්
තේ ඔහු වෙතද දූතයෙක් යැවීය. නිමිල නම් සත්වැනි පුත්‍ර
21 තෙමේ ඇතුන් දසදෙනෙකුගේ බලඇත්තේයි. උහු අකම්මි
ශීල්හෙසින් බෑයෝ සදෙනාම හෙළාදක්නාහු ඔහුගේ
22 ගමන් කැමැතිවූහ. මවුපියෝ එසේ කැමැතිනුවූහ. නිමිල
තෙමේ සෙසු බෑයන්ට නිපී ඉතා උදයම තුන්යොදුන් මග
23 ගෙවා හිරු නැගෙණකලම රජකුමර දිටී. ඒතෙමේ ඔහු
24 විමසනු සඳහා දුර කටයුත්තක යෙදූයේය. “සෑගිරිගල
වෙත දොරමඩලා නම් ගම මා යහළු කුඩල නම් බමුණෙක්
වෙසෙයි, උහුවෙත මුහුදුඑතර (කපුරු සඳුන් ආදී බඩු) ඇත්
25 නාහ. තෝ ගොස් උහුවිසින් දෙනලදුවූ බඩු මෙහි
26 ගෙණඑව” මෙසේ කියා බත් කවා ලියුමක් දී යැවී. මේ අනු

රාජූරයතෙමේ ඒ (කසාතොටින්) නවයොදුන් මත්තෙහිය
27 ඒ තෙමේ පෙරවරුම ගොස් බමුණු දුටී, බමුණු "දරුව වැව
28 නහා එව"යි කීය. මෙහි පෙර නාබැවින් තිසාවැව නහා
මහාබොධියද ථූපාරාමයෙහි චෛත්‍යයද පුදා සියලු පුරය
29 දක්නට නුවරටත් වැද සල්පිළින් සුගන්ධද්‍රව්‍ය ගෙණ එහි
30 උතුරු දොරින් නික්ම උපුල්කෙතින් උපුල්මල්ද ගෙණ ඒ
බමුණුවෙත එළඹියේය. බමුණු විසින් විචාරණලද්දාවූ ඒ
31 තෙමේ තමා ගමන් කීය ඒ බමුණුතෙමේ උහුගේ පළමු
ඊමත් මෙහි ඊමත් අසා විස්මිතවූයේ "මේතෙමේ පුරුෂා
ජනීයයෙක; ඉදින් එළාලරජ දතහොත් මොහු අත්පත්
32 කොට ගන්නේය. එහෙයින් මේතෙමේ දෙමළුන් සමීප
යෙහි වස්වන්ට නුසුදුස්සේය, රජපිත් පියහුවෙත වාසය සුදුසු
33 ය"යි මෙසේ සිතීය. මෙසේම ලියා ලියුම ඔහුටදී පූර්ණ
වර්ධන නම් වස්ත්‍රද (මහගුප්ළි) බොහෝ පඬුරද දී ඔහු
34 බත් කවා මිතුරු කුමරුවෙත යැවූයේය ඒතෙමේ සවස් මා
නයෙහි රජකුමරු වෙත ගොස් ලියුමද පඬුරුද රජකුමරහට
35 දිනී. තුටුවූ ඒතෙමේ "දහසකින් මොහු සතුටුකරව්"යයි
36 කීයේය. රජකුමරහුගේ ඉතිරි සේවකයෝ උහුට ඊර්ෂ්‍යා
37 කළෝය. ඒ කුමර දසදහසකින් ඒ නිම්ලයා සතුටුකරවී.
38 ඔහු කෙස්ලියවා ගඟම නහවා පූර්ණවර්ධන වස්ත්‍රයුග්මයක්ද
39 මනා ගඳමල්ද (දී) දුකුල් පටකින් හිසවෙළවා (කුමරු)
වෙත එළවූහ. කුමරතෙමේ තමා පෙළහරින් ඔහුට බත්
දෙව්; තමාගේ දසදහසක් අගණා යහපත් ඇඳ ඒ යෝධ
40 යාට සැතපෙනු පිණිස දෙවිය. ඒතෙමේ සියල්ල එක්කොට
ගෙණ මවුපියන්කරා ගෙණගොස් මෑනියන්ට දසදහසද
41 පියානන්ට ඇඳද දිනී. එම රෑ අවුදින් රක්ෂාස්ථානයෙහි
42 (තමා) දක්වී. උදෑසන රජකුමර ඒ අසා තුටුසිත් ඇතිව
ඔහුට වස්ත්‍රාභරණාදියද එසේම පරිවාර ජනයාද දසදහ
43 සක්දදී පියරජුවෙත යැවූයේය. යෝධතෙමේ දසදහස මවු
පියන්වෙත ගෙණගොස් උන්වදී කාවන්තිස් රජුවෙත එළ
44 ඹියේයි. ඒ රජ ගැමුණුකුමරුට උහු භාරකෙළේය. සත්
කාර කරණලද සුරනිම්ල යෝධතෙමේ ඒ කුමරුවෙත විසූ
යේය.

45 කුළුම්බරි කර්ණිකායෙහි හුදුරිවාපි නම් ගම තිස්ස නම්
46 (කෙළෙඹියා) සෝණ නම් අටවැනි පුතෙක් විය. සත්හැවි
රිදිකල ඒතෙමේ තල්පැල ඉදිරී; දසහැවිරිදිකල මහත්
47 බලඇතෙත් තල්ගස් ඉදිරීය. කල්යාමෙන් ඒ මහාසෝණ
තෙමේ දස ඇත්බල ඇතිවී. රජතෙමේ එබඳුවූ ඔහු අසා

පියාවෙතින් ගෙණ පෝෂනය කරණුකැමැත්තේ ගැමුනු
48 කුමරහට දුන්නෝය. ඉන්පසු ලබනලද සත්කාරඇති ඒ
යෝධතෙමේ ගැමුනුකුමරුවෙත විසීය.

49 ගිරි නම් දනව්වෙහි නිසෙල්විටි නම් ගම මහානාග නම්
50 තැනැත්තාහුගේ පිත් දසඇත්බල ඇතියෙක් විය. මිටිසිරුරු
ඇති බැවින් ගෝඨක නම්වී. දෙටු සබැයෝ ඔහුට කෙළි
51 සිනා කරන්නාහ. ඔව්හු ගොස් උඳු වපුරණ පිණිස මහ
වනය කොටා උහුගේ භාගය තබා ගොස් උහුට දැන්වූය.
52 ඒ තෙමේ එකෙණෙහිම ගොස් ඉඹුරු නම් ගස් උදුරා බිම
53 සමකොට ගොස් දැන්වීය. බැයෝ ගොස් උහුගේ ඒ අරුම
ක්‍රියාව දැක ඔහුගේ කර්මකීර්තනය කෙරෙමින් උහුවෙත
54 ගොස් දැන්වූය. ඒ නිමිත්තකොටගෙණ ඒතෙමේ ගොට
ඉම්බර නම්විය. රජතෙමේ උහුද යටකී පරිද්දෙන් ගැමුනු
කුමරුවෙත යැවීය.

55 කොටගල් අසල කතනි නම් ගම්හි ඊශ්වරවූ රොහණ නම්
56 ගෘහපතියෙක් වූයේ තමහට දුව උපන් පුතෙක් ගොඨ
අබා රජහට සමාන නම් කෙළේය. ඒ දරුතෙමේ බලඇත්
57 තේවී. එකල්හි ඒතෙමේ දසදොළොස් හැවිරිදි වූයේ
සතර පස්දෙනෙකුන් විසින් නගාගත නොහෙන ගල්
58 ක්‍රීඩාගුලයක්සේ කෙළිමින් දැමීය. සොළොස්ඇවිරිදි ඔහුට
පියතෙමේ සොළොස්රියන් දිග් වට අටත්ස් අඟුල්ඇති ගදා
59 වක් කරවී. ඒතෙමේ එයින් තල් පොල් කඳ පැහැර බිම
60 හෙලා එයින්ම ඒ යෝධතෙමේ ප්‍රකටවී. එසේම රජතෙමේ
උහුද ගැමුනුකුමර වෙත යැවීය. ඔහු පියතෙමේ වනාහි
61 මහාසුම්මස්ථවිරයන්ගේ උපස්ථායකයි. ඒ කෙලෙඹිතෙමේ
මහාසුම්මස්ථවිරයන්ගෙන් බණඅසා කොටගල් වෙහෙරදී
62 සෝවාන් ඵලයට පැමිනියේය. හටගත් සසර කලකිරීම්
ඇති ඒතෙමේ රජුට කියා සංඝපත පුතුටදී තෙරහුවෙත පැවි
63 දිවිය. භාවනායෙහි යෙදී රහත්බවට පැමිනියේය. ඒ
හේතුවින් මේ තෙරුන්ගේ පුත්‍රතෙමේ ථෙරපුත්තාභයයි
ප්‍රසිඬවී.

64 කප්කඳුරු නම් ගම්හි කුමාරයාගේ භරණ නම් පුතෙක්වී
65 ය. ඒතෙමේ කල්යාමෙන් දස දොළොස් හැවිරිදිවූයේ, ගම්
දරුවන් හා වනයට ගොස් බොහෝ සාවුන් ලුහුබැඳ පයින්
66 පැහැර දෙකඩකොට බිමගැසීය. සොළොස්හැවිරිදි වූයේ
වනාහි ගම්වැස්සන් හා වලටගොස් එසේම මුවන් ගෝණුන්
67 ඌරන් වහා පෙළිය. භරණ නම් ඒ මහායෝධතෙමේ
එයින්ම ප්‍රකට විය. රජතෙමේ ඔහුද යටකී පරිද්දෙන් ගැමු
නුකුමරුවෙත වැස්වී.

68 ගිරි නම් දනව්වෙහි කුඹියගන නම් ගම එහි ප්‍රසිද්ධවූ
කුටිඹිවසභ නම් (කෙලෙඹියෙක්) වී. දනව්වැසි වේළ නම්
69 වූද ගිරි නම් රට අනුභවකරන්නාවූ සුමන නම්වූද යහළු
වෝ (දෙදෙනෙක්වූහ). කෙලඹියහට පුතෙක් උපන්කල
පඬුරු පෙරටුකොට දෙදෙනා ගොස් තමන් නම දරුවහට
70 කළෝය. ගිරිභොජකතෙමේ ඒ පුතු තමාගෙහි වැඩ්වීය.
71 ඔහුගේ එක් සෛන්ධවයෙක් තිසි පුරුෂයෙක් පිටනැ
ගෙන්ට නුදුන්නෝය. (ඒ අශ්වතෙම) වේළුසුමනයා දැකම
“මේතෙමේ මට සුදුසුවූ අසරුය”යි සිතා සන්තුෂ්ටවූයේ
72 හේෂාරව කෙළේය. ඒ දැන ගිරිභොජකතෙමේ “අසුනැගෙ
73 ව”යි ඔහුට කීය. වේළුසුමනයා අසුනැගී ඒ අසු මඬල
යෙහි වහා මෙහෙයී. ඒ අස් සකල මඬලයෙහි ඒකාබද්ධ
74 වූයේ පෙණිනි. දුවන්නාවූද මේ අසුපිට පුරුෂ වළල්ලක්
සේ හුන්නේය; සැලතිලි නැත්තේ උතුරුසළුව මුදයි
75 නැවත බඳියි. ඒ දැක සියලු පිරිස ඔල්වරහඬ ගැසූය. ඒ ගිරි
භොජකතෙමේ උහුට දසදහසක් දී “මේතෙමේ රජහට
76 සුදුසුය”යි සතුටුවූයේ රජහට දුන්නේය රජතෙමේ උහුට
සත්කාර කරවා වේළුසුමනයා බුහුමන්කෙරෙමින් තමන්
වෙතම වැඩ්වී.

77 නකුල්ගල් කණ්ණිකායෙහි මහෙන්ද්‍රද්‍රෝණි නම් ගම අභ
යනම් තැනැත්තාහුගේ අන්තිම පුත්‍රවූ ශාන්තිසංඥනාත දේව
78 නම් තැනැත්තෙක් වී, මදක් කොරගසා යනබැවින් බජ
79 දේවයයි උහු දත්තුය. එකල්හි ඒ මානවතෙමේ ගම්වැස්
80 සන්හා මුවදඩ ගොස් මහත්වූ උස් මීවුන් ලුහුබැඳ අතින්
උන් පා අල්වාගෙණ ඉසවට සිසාරා බිම් පැහැර උන් ඇට
81 පොඩි කෙරෙයි. මීපල්තෙමේ එපවත් අසාම බජදේවයා
ගෙන්වාගෙණ ගැමුනුකුමරු වෙත රැඳවී.

82 සිතුල්පව් වෙත කපිෂ්ඨ නම් ගම උත්පල නම් තැනැත්ත
83 හුගේ පුස්සදේවයයි නම්ඇති පුතෙක් වීය. ඒ කුමරතෙමේ
ගම්දරුවන්හා විහාරයට ගොස් බොධියට පූදනලද සකක්
84 ගෙණ තරයේ පිඹීය. එහි ශබ්දය අසනිපාත රව සෙයින්
85 මහත්වීය. ඒ සියලු ගම්දරුවෝ බියවැද උමතුවූවන් සෙයින්
වූහ. ඒතෙමේ ඒ හේතුවින් උන්මාද පුස්සයයි ප්‍රසිද්ධවීය. ඔහු
ගේ පියතෙමේ වංසයෙහි පැවත ආ ධනුශ්ශිල්පය ඉගැන්
86 වී. ඒතෙමේ ශබ්දානුසාරයෙන් විදින සුළුවූයේද විදුලි එළි
යෙන් විදින සුළුවූයේද (කරබටු ආදී තිසි ලකුණකින්)
87 රෙම් විදින සුළුවූයේද වී. වැලිපිරුණු ගැලෙක එසේම
බැඳි සම් සියක්පටය. අටඟුල් පියාළැහැලල සොළසාඟුල්

88 අඹුලලැහැලල එසේම දෑඟුල් යපට සතරඟුල් ලොහොපට හියෙන් විදිනේයි. හියද එහිදෑ විනිවිද යවයි ගොඩ අට
89 ඉස්ඹක් යෙයි දියෙහි ඉස්ඹක් යෙයි මහරජ එපවත් අසා ඔහුද පියහුවෙතින් ගෙන්වාගෙණ ගැමුනුකුරුවෙත වැස් වීය.
90 තුලාධාර පර්වත සමීපයෙහි වෙහෙරවැ ගම මත්ත නම් කෙලෙඹියා පුත් වසභ නම් ඇතෙනක් විය. මොනවට හට
91 ගත් ශරීරඇති බැවින් උහු ලඹියෘ වසභයයි දනතුය. හේ තෙමේ විසිවස් පමණෙහි මහත් කායශකති ඇතෙත්වී.
92 කෙතක් කැමැති මහත් බලඇති ඒතෙමේ වැවක්කරනෙන් මිනිසුන් තිපදෙනෙක්ම ගෙණ ඒ වැව පටන් ගත්තේය.
93 දසදෙළොස් දෙනෙකුන් විසින් ඉසිලියයුතු මහත් පාංශු පිඩයන් උසුලනනාවූ ඒතෙමේ වහාම වැවකොට නිමවී.
94 ඒ කරුණෙන් ඒතෙමේ ප්‍රකට විය. රජතෙමේ ඔහුද ගෙන් වාගෙණ ඔහුට සත්කාරදී ගැමුනුකුමරු වෙත වැස්විය. ඒ
95 කෙත වසභ අමුනැයි ප්‍රකටවිය ඒ ලඹියෘ වසභ තෙමේ ගැමුනුකුමරු වෙත විසීය.
96 එකල් මිහිපල්තෙමේ මේ දසමහ යෝධයන්ට පූතු සම
97 සත්කාර කරවී. ඉක්පනි රජතෙමේ මහායෝධයන් දස දෙනා කැඳවා "තෙපි එකඑකා යෝධයන් දසදසදෙනා
98 සොයව්ය" යි කීයේය. ඔව්හු එසේම යෝධයන් ගෙණ වෝය. නැවතත් මිහිපල් තෙමේ ඒ යෝධයන් සියයටත්
99 එසේම යෝධයන් පරියෙෂණය පිණිස කීයේය. ඒ යෝධ යෝද එසේම යෝධයන් ගෙණවෝය. මිහිපල්තෙමේ නැ
100 වත ඒ යෝධයන් දහසටත් එසේම පරියෙෂණයට කීයේය. එසේ ඔව්හුද යෝධයන් ගෙණඅවුය. කැටිකරණලද ඒ සියලු යෝධයෝ එකොළොස් දහස් එක්සිය දසදෙනෙකි.
101 ඒ සියල්ලෝ මිහිපල්හු වෙතින් හැමකල ලබනලද සත් කාර ඇතෙතා් ගැමුනුරජපිත් පිරිවරා විසූය.
102 සුවකැමැති ප්‍රාඥ මිනිස්තෙමේ අද්භූත සුචරිත පරම් පරාව මෙසේ අසා අකුසලමාර්ගයෙන් පරාඞ්මුඛවූයේ හැම කල් කුසල්මග ඇලෙනොන්ය.

මෙතෙකින් සුදිජනයා පහන් සංවෙග පිණිස කළ මහ වස යොධලාභ නම් තෙවිසිවන අදියර නිමි.

# 24 වෙනි පරිච්ඡෙදය.

1 හස්තිශිල්ප අශ්වශිල්ප කඩුශිල්ප යන මෙහි දක්ෂවූ කරණ
ලද අභ්‍යාසඇති ගැමුණුකුමරතෙමේ එකල මාගම්හි විසීය.
2 රජතෙමේ සැපයුනු බලවාහනඇති තිස්සකුමාරයා ජන
පදය රක්නා පිණිස දීඝාවැව්හි වැස්වීය. ගැමුණුකුමර
3 තෙමේ හැකිවූ කාලයෙහි ශක්තිය හෝ බලසෙන් දක්නේ
"දෙමළුන් හා යුදකරන්නෙමි" පියරජහට කථාකරවී. රජ
4 තෙම ඔහු රක්නේ "ගඟින් මෙතර පමණය"යි වැලකුයේය.
5 ගැමුණුකුමර තුන්වන වරතෙක් එසේම කථාකරවී. "පිත්
වත්නි මපියතෙමේ පිරිමිවෙමින් මෙසේ නොකියන්නේමය
එහෙයින් මේ පලඳිව"යි රජහට ස්ත්‍රීආභරණ යැවීය.
6 රජතෙමේ ඔහුට කිපී "රන්හැකිලලක් තනව් එයින් උහු
බඳින්නෙමි අනික්පරිද්දෙකින් ඒතෙමේ රැක්කහැක්කේ
7 නොවේ"යි කීයේය. පියරජහට කිපී පලාගොස් කඳුරටට
ගියේය. පියානන් කෙරෙහි දුෂ්ටවූ බැවින්ම ඔහුට දුට්ඨගාම
ණියයි කීහු.
8 ඉක්බිති රජතෙමේ මහානුගගල චෛත්‍යය කරන්ට
ආරම්භකෙළේය. සෑය නිමිකල මිහිපල්තෙමේ සඞ්ඝයා රැස්
9 කෙළේයි. සිතුල්පව්වෙන් භික්ෂූහු දොළොස් දහසක් වැඩි
යෝය; ඒ ඒ දිගින් තවත් දොළොස්දහසක් වැඩියෝය.
10 චෛත්‍යපූජාව කොට සඞ්ඝයා සම්මුඛයෙහි සියලු යෝධ
යන් රැස්කරවා සපථකරවී. "කුමරුවන් උහුන්ගේ කලහ
11 ස්ථානයට අපි නොයමහ"යි සියල්ලෝ දිව්වෝය. එහෙ
යින් ඒ යුද්ධයට ඔව්හු නොගියෝයි.
12 ඒ මිහිපල්තෙමේ විහාරයන් සූසැටක් කරවා එතෙක් අවු
රුදු එහි වැස පසුව කළුරිය කෙළේය. රාජිනියතොමෝ
13 පිළිසන් යානාවකින් රජහු සිරුර ගෙන්වාගෙණ තිස්ස
මහාරාමයට පමුණුවා එපවත් සඞ්ඝයාට දැන්වීය. තිස්ස
කුමාරතෙමේ එපවත් අසා දීඝාවැවින් ගොස් පියහුගේ ශරී
14 රයට කටයුතු ආදාහනාදිය තෙමේ සකසා කරවා මෑනියන්ද
කඩොලැතුද ගෙණ මහත් බලඇතෙන් බැයාට හයින්
15 එතැනින් වහා දීඝාවැවට ගියේය. එපවත් දන්වන්ට සියලු
16 ඇමැතියෝ රැස්ව ලියමන් දී දුටුගැමුණු කුමරුවෙත (දූත
17 යන්) යැවූහ. ඒතෙමේ ගුත්තලට අවුත් තිස්සකුමරුවෙත
18 චරයන් යවා මාගම් එළඹ තමන් රාජ්‍යයෙහි අභිෂෙක කෙ
ළේය. මෑනියන් පිණිසත් කඩොලැතු පිණිසත් බැයාට
19 ලියුම් යැවීය, තුන්යල දක්වා නොලැබ යුදපිණිස උහු

බලා එළඹියේය. චූලගංගිය පිටියෙහි දෙදෙනාගේ මහත්
20 යුද්ධයෙක් විය. ඒ යුදෙහිදී රජහුගේ නොයෙක් දහස්
ගණන් මිනිස්සු වැටුනෝය. රජතෙමේද තිස්සාමාත්‍යද දීඝ
21 ථූනිකානම් වෙළඹද යන තුන්දෙනා පමණක් පලාගියෝය,
කුමරතෙමේ උන් ලුහුබැඳ ගියේය. දෙපක්ෂය අතුරෙහි
භික්ෂූහු පර්වතයක් මැවූහ. ඒ දැක කුමරතෙමේ භික්ෂුසඞ්ඝ
යාගේ ක්‍රියාවෙකැයි දැන නැවැතෙන්ය.
22 ඒ රජතෙමේ සප්පදුරුහොය ජීවමාලි තොටට එළඹියේ,
23 තිස්ස නම් ඇමැතියාහට "අපි සාපිපාස ඇත්තාමෝය" යි
කීයේය. ඒ ඇමැතිතෙමේ රජුපිණිස රන්තැටියෙහි තුබූ
24 බත් බැහැරකෙළේය. සඞ්ඝයා විසයෙහි දන්දී අනුභව
කරණ හෙයින් සතර කොටස් කරවා "කාලඝොෂා කරව" යි
25 කීයේය. තිස්සතෙමේ කාලඝොෂා කෙළේය. රජහට ශික්ෂා
දුන් ස්ථවිරතෙමේ පූවඞ්ගු දිවයින වසනසේක්, (ඒ ශබ්දය)
දිව්කණින් අසා කෙලෙඹි පුත් තිස්සතෙරුන් එහි නියෝග
26 කළසේක. උන්වහන්සේ අහසින් එහි වැඩිසේක; තිස්ස
ඇමැතිතෙමේ උන්වහන්සේ අතින් පාත්‍රය ගෙණ රජහට
දුනෙන්ය; රජතෙමේ සඞ්ඝයාගේ භාගයත් ස්වකීය භාග
27 යත් පාත්‍රයෙහි බහාලූයේය; තිස්සතෙමේ ස්වකීය භාගයත්
පාත්‍රයෙහි බහාලීය; වෙළඹත් සියකොටස නොකැමැතිවිය;
28 තිස්සතෙමේ ඇයගේ භාගයත් පයෙහි බහාලීය. රජතෙමේ
බතින් පිරූපය තෙරුන්ට දුනෙන්ය, උන්වහන්සේ වහා
අහසින් වැඩ ගොතම නම් තෙරුන්ට දුන්සේක.
29 ස්ථවිරතෙමේ වලදන පන්සියයක් භික්ෂූන්වහන්සේලාට
ආලොපවසයෙන් බෙදූදී උන්වහන්සේලා වෙතින් ලැබූ
30 කොටසින් පාත්‍රයක් පූරවා රජුපිණිස අහස දැමූසේක; තිස්ස
තෙමේ ආකාසගත ඒ දැක ඇරගෙණ රජු වැලඳවීය.
31 තෙමේත් කා වෙළඹටත් කැවීය. සන්නාහය සුඹුලුකොට
රජතෙමේ පාත්‍රය යැවීය.
32 ඒතෙමේ මාගම්ගොස් සැටදහසක් බලසෙන් ගෙණ මළු
33 හා නැවත යුදපිණිස ගොස් යුදකෙළේය. රජතෙමේ
වෙළඹ පිටද තිස්සකුමර කඩොලැතු පිටද නැගී සම්මුඛ
34 වූය. එකල්හි දෙබෑයෝ යුදකරනනාහු යුද්ධයෙහිදී රජ
තෙමේ ඇතු ඇතුළුකොට වෙළඹ මඬුලක් කෙළේය;
එසේද අවසර නොදැක පන්වන්ට සිතීය, වෙළඹ ඇතු මත්
35 තෙන් පනනාවා සහෝදරයාගේ මස්තකයෙන් පිට සන්නා
36 හය කැපෙන පරිද්දෙන් තෝමරය දැමීය. ඒ යුද්ධයෙහි කුමා
රයාගේ නොයෙක් දහස් මිනිස්සු යුදකෙරෙමින් වැටුනෝය;

37 (උහුගේ) මහත් බලයද බිඳුනේය. "ඇතරුවා විත්ල
බැවින් ක්ෂත්‍රිය මා මතුයෙන් පැනවීය"යි කිපුනාවූ ඇත්
තෙමේ චාලනය කෙරෙමින් එක් රුකක් වෙතට ගියේය.
38 කුමර රුකට නැංගේය, ඇත්තෙමේ හිමියා වෙත ගියේය.
ගැමුණුරජ ඇතුනැඟී පලායන කුමරහු ලුහුබැන්දේය. ඒ
කුමර විහාරයකට වැද මහතෙරුන් ගෙට වන්නේය.
39 කුමාරතෙම බැයාට හයින් යටහැඳ වැදහොත්තේය.
40 මහා ස්ථවිරතෙම ඒ ඇඳ සිවුර අතුළසේක. රජතෙමේ පසු
41 පස්සෙහි ගොස් "තිස්සයා කොහිදැ"යි විචාළේය. "මහරජ
නෙනි ඇඳෙහි නැතැ"යි ස්ථවිරතෙම රජහට කීයේය. මිහි
42 පල්තෙමේ යටහැඳයයි දැන එයින් පිටත්ව වෙහෙර සිසාරා
මුර තැබීය. ඒ කුමරහු වනාහි කුරුඇඳෙක හොවා මතෙහි
43 සිවුරෙකින් වසා ලදරු භික්ෂූහු සතරදෙනෙක් ඇඳකකුල්
අල්වාගෙණ මළ භික්ෂුකෙනෙකුත්මෙන් බැහැරලූය. මිහි
44 පල්තෙමේ ඒ ගෙණයනු ලබනනහු හැඳින "තිස්සය තෝ
කුලදේවතාවන් ඉස හිඳගෙණ යනු නොලබ, කුලදෙවියන්
45 අතින් මාගේ පැහැරගැන්මක් නැත්තේය, තෝ කොයි දව
සත් කුලදෙවියන් ගුණ සිහිකරව"යි මෙසේ කීයේය.

46 මිහිපල්තෙමේ එතැනින් මාගමට ගියේය. මෑනියන්
කෙරෙහි ගෞරවඇත්තේ එහිදී මෑනියන් කැඳවාගත්තේ
47 ය. ධර්මයෙහි පිහිටි සිත්ඇති ඒ ගැමුණුරජ අටසැට වසක්
වෙසෙමින් අටසැට වෙහෙරක් කරවී.

48 භික්ෂූන් විසින් නික්මවනලද ඒ තිස්ස රජකුමර වනාහි
49 අනෲතරයෙකුසේ එතනින්ම දිගාවැව් ගියේය. ඒ කුමාර
තෙමේ ගොඨගත්ත තිස්සතෙරුන්ට "ස්වාමිනි මම අපරාධ
50 සහිතයෙමි බැයා ක්ෂමාකරවනෙනාමැ"යි කීයේය. වතාවත්
කරනෙනකුගේ වේසඇති තිස්සකුමරුද භික්ෂූන් පන්සිය
51 යක්ද ගෙණ ඒ ස්ථවිරතෙමේ රජුකරා එළඹියේය. ස්ථවිර
52 තෙමේ රජකුමරහු හිණිහිස සිටුවා සඞ්ඝයා සමග රජගෙට
වන්සේක. සැදැහැති මිහිපල්තෙමේ වඩාහිඳුවා කැඳආදිය
එළවූයේය. ස්ථවිරතෙම පාත්‍රය වැසූසේක. කිමෙක්දැයි වි
53 චාළකල "තිස්සකුමරහු ගෙණ ආමහ"යි කීසේක. සොරතෙ
මේ කොහිදැයි විචාරණ ලදුයේ සිටිතැන් දැන්නුසේක. විහාර
54 දේවී ගොස් පුතු මුවහකොට සිටියාය. රජතෙමේ "නුඹ
වහන්සේලා විසින් අපගේ දසභාවය දැන් දනනාලද්දේය,
ඉදින් නුඹවහන්සේලා සත්හැවිරිදි සාමණේර කෙනෙක්
55 එව්වාහුනම් ජනක්ෂයෙන් තොරවම අපගේ කලහයෙක්
නොවනාන්ය"යි තෙරුන්ට කියේය. ඒ රජතෙමේ "මේ

සඞ්ඝයාගේ ද්‍රෝහයයිද සඞ්ඝතෙමේ දඬුවම් කරන්නේයයිද
56 නුඹවහන්සේලා වැඩියාවූ කෘත්‍යය සිද්ධවන්නේයයිද කැඳ
ආදිය පිළිගත මැනව" යිද තියා භික්ෂුසඞ්ඝයාට දන්දී
57 මළු කැඳවා එහිම සඟමැද හුනෙන්, මළුහා එක්ව මේ නිම
58 වා භික්ෂුසඞ්ඝයා යැවීය. ගොයම් කරවනු පිණිස තිස්සකුමර
ඒ දීඝාවැමඬුල්ලටම යැවූයේය. තෙමේත් බෙරපියවි කර
වා සස්කම් කරවී.

59 මෙසේ නානාප්‍රකාරයෙන් රැස්කරණ ලඳුවූ බොහෝවූද
වෛරය සත්පුරුෂයෝ නිමති; නුවනැති කවර නම් මිනි
සෙක් මෙසේ සිතා අනුන් කෙරෙහි සත්සුන් සිත්ඇත්තේ
නොවන්නේද වන්නේමැයි.

මෙතෙකින් සූදිජනයා පහන් සංවෙග පිණිස කළ මහ
වස වෛභාතික යුඬ නම් සූවිසිවන අදියර නිමි.

---

# 25 වෙනි පරිච්ඡේදය.

1 ඉක්බිති දුටුගැමුනු රජ ජනයා සඞ්ග්‍රහකොට ගෙණ කුන්ත
යෙහි ධාතු නිදන්කරවා යානවාහන හා බලසෙන් ඇතිව
2 තිස්සමහාරාමයට ගොස් සඞ්ඝයා වැඳ "සාසනය බබුළු
වන්ට මම ගඟඑතර යන්නෙම්, සත්කාර කරණු පිණිස
3 අප කැටිව යන්ට භික්ෂූන් දුනමැනව, භික්ෂූන්ගේ දර්ශනය
අපට මගුල්ද ආරක්ෂාද වන්නේය" යි කීයේය. සඞ්ඝතෙමේ
4 දඬුවම් පිණිස භික්ෂූන් පන්සියයක් දුන්නේය. මිහිපල්තෙ
මේ ඒ භික්ෂු සඞ්ඝයා ගෙණ එයින් පිටත්ව මලයරට මෙහි
5 අනුරාපුර එන මාර්ගය සුඬකරවා කඬොලැතු නැගී යෝධ
යන් විසින් පිරිවරණලදුයේ මහත් බලසෙන් හා යුඳපිණිස
6 නික්මගත්තේය. මාගම පටන් ගුත්තල දක්වා කඬනැති
සේනාතොමෝ ආය.

7 මියුගුණට අවුත් ඡත්‍රනම් දෙමළා අල්වා ගත්තේය. එහි
දෙමළුන් මරා ගඟා නැමැති පරිඛාවෙන් යුක්තවූ අඹතො
8 ටට අවුත් තිත්ථම්බ නම්වූ මහත් බලඇති කෘතහස්තවූ
දෙමළා යුඬකෙරෙමින් සාර මසෙකින් මෑනියන් දක්වා ඒ
උපායෙන් අල්වා ගත්තේය. එයින් බැස මහත් බලඇති
9 දෙමළ සත්රජ කෙනෙක් එකදවසින්ම අල්වාගෙණ නිර්භය
10 කොට මහත් බලඇත්තේ බලසේනාවට වස්තුදුන්නේය.

11 එහෙයින් (එහි) ආරාමයතෙමේ ඛෙමාරාමයයි කියනුලැබේ.
අතුරුහෙබ මාකොටු නම් දෙමළාද ද්‍රොණ නම් ගම ගවර
නම්දෙමළාද හල්කොල නම් ගම ඉසුරු නම් දෙමළාද නැළි
12 සෙබ නාළික නම් දෙමළාද අල්වාගත්තේය. දීක්අබාගල
දීක්අබා නම් දෙමළාද අල්වාගත්තේය. කස්තොට කව්
13 සීස නම් දෙමළා සාරමසෙකින් අල්වාගත්තේය. කෝට
නුවර කෝට නම් දෙමළාද ඊට ඉක්බිති හාලවහානක නම්
14 දෙමළාද වහිඨනම් තැන එනම් දෙමළාද ගැමුණුගම ගැ
මුණු නම් දෙමළාද කුඹගම කුඹනම් දෙමළාද නන්දිගම්හි
නන්දිකනම් දෙමළාද ඛානුගම ඛානුනම් දෙමළාද තඹගම
15 තඹ නම්වූය උන්නානම් ගම එනම්වූය යන මයිල් බෑන දෙ
මළුන් දෙනන්නාය යන මෙතෙක්දෙන අල්වාගත්තේය. ජඹු
නම් ගම එනම් දෙමළාද අල්වා ගත්තේය. ඒ ඒ ගම්හ්
ඒ ඒ ප්‍රධානීන්ගේ නම් සමානවූය.

16 "සියසෙන් නොහැඳින ස්වකීය ජනයෝම නසත්"යයි අසා
මිහිපල්තෙමේ එහිදී "මාගේ මේ ව්‍යායාමය තෙමේ කිසි
17 කලෙකත් රජසැප පිණිස නොවන්නේය, මාගේ මේ
18 උත්සාහය බුඩශාසනයාගේ පිහිටවීම පිණිසමැයි, ඒ සත්‍යය
කරණකොට ගෙණ මාගේ සේනාකායභාණ්ඩයන් ගිනිදැල්
19 වන් වේවා" යි සත්‍යක්‍රියා කෙළේය. එකල්හි ඒ එසේම විය.
ගංතෙර විසූ මරණලදීන් ඉතිරි සියලු දෙමළු ආරක්‍ෂා පිණිස
20 විජිත නම් නුවරට වන්නූය. එසුවූ සමතලා තැනෙක කඳ
යුර පිහිටවී. එතැන කඳයුරු පිටිය යි නම්වී.

21 විජිතනුවර ගන්නා පිණිස විමසන්නාවූ නරනායක,
22 එන්නාවූ නන්දිමිත්‍රයා දැක කඩොලැතු යැවීය. නන්දිමිත්‍ර
තෙමේ තමා අල්වන්ට ආ ඒ ඇතු දෙයතින් දෙදළ පෙළා
23 අල්වා උකුසුටුකයෙන් හිඳවී. ඒ නන්දිමිත්‍රතෙමේ යම් හෙය
කින් යම් තැනෙක යුදකෙළේ නම් ඒ හේතුවින් එහි කළගම
හත්ථිපෝරයයි කියනුලැබේ.

24 රජතෙමේ දෙනන්නාම විමසා විජිතනුවර බලා ගියේය.
25 දකුණු දොරදී යොධයන්ගේ බිහිසුනු සංග්‍රාමයෙක් විය. නැ
ගෙණහිරි දොර ප්‍රසිඩ වේළුසුමන තෙමේ අසුනැංගේ
බොහෝ ගණන් දෙමළුන් මැරීය. දෙමළු දොර වැසූය. රජ
26 තෙමේ යොධයන් යැවීය. දකුණු දොර කඩොලැතුය නන්දි
මිත්‍රය සුරනිමිලය යන මොවුන්හා මහාසෝණය ගොඨය
27 ථෙරපුත්තාභය යන ඒ තුන්දෙනා ඉතිරි වාරත්‍රයෙහි යුඩ
28 කළෝය. ඒ නුවර වනාහි පරිඛාත්‍රයක්ද උස්වූ පව්රු
තොරන්ය ලොහොකම්කළ දොරය (යන මෙයින්) සතුරන්

29 විසින් බිඳහෙළිය හැක්කේ නොවේ. ඒ ඇත්තේමේ දෙද
නින් හිඳ දෙදළින් ගල් සුණු ගඩොල් බිඳ යදොරට පැමිනි
30 යේය. තොරණ හුත් දෙමළු අනෙකප්‍රකාර ආයුධයන්ද
කතියාගිය ලොහොගුළිද එසේම කකාළ මැලියම්ද දැමූය.
31 පිට ලහටු දූකල කඩොලෑත්තෙමේ දුවමින් වේදනාවෙන්
මිරිකුනේ උදක ස්ථානයට ගොස් එහි ගිලිනි.
32 ගොටයිම්බරතෙමේ "මේ තට සුරාපාන නොවෙයි යදොර
33 හැරීමය යව දොර බිඳුව"යි මෙසේ කීය. ඒ උතුම් ඇත්
තෙමේ මත් උපදවා කුච නාදකොට දියෙන් ගොඩනැගී
34 එඩිඇතිව ගොඩ සිටගතෙත්ය. ඇත්වෙදතෙමේ ලහටු
ගලවා බෙහෙත් කෙළේය. රජතෙමේ ඒ ඇතුනැගි අතින්
35 කුම්භස්ථලය පිරිමැද "දරුව කඩුලය මුළු ලක්දිව රජය
තට දෙනෙනම්"යි ඒ ඇතු තුටුකරවා වරබොජුන් කවා
36 සළුවෙන් වෙළා මනා සන්නාහ ලවා සන්නාහ මතුයෙහි
සත්ගුණකළ මීසම් බඳවා ඊමතෙහි තෙල්සම් එලවා ඒ
37 ඇතු මෙහෙයී. ඒ ඇතෙනමේ සෙනගඩමෙන් ගුගුරමින්
38 උපද්‍රවයත් ඉවසමින් ගොස් දෙදළින් ලැහැලි බින්දේය,
එලිපත පසින් පහළේය. දොරබා සහිත ඒ යදොර ගුගුරා
39 ගෙණ බිම හිනි. තොරණෙහි ද්‍රව්‍යසමහාරය ඇතුපිට හෙ
නනා දැක නන්දිමිත්‍රතෙමේ බාහුයෙන් පෙරලා දැමීය. කඩො
40 ලෑත්තෙමේ ඔහුගේ ක්‍රියා දැක තුටුසිත් ඇතෙත් පළමු කර
41 ණලද දළපෙළිම් වෛරය හළියේය. කඩුල නම් උතුම්
ඇතෙනමේ තමා පිටින්ම නුවරට වදනා පිණිස නැවතී සිට
42 යොධයාදෙස බැළීය. "ඇතුකළ මගින් මම නොවදනෙ
43 මැ"යි සිතා නන්දිමිත්‍රතෙමේ බාහුයෙන් ප්‍රාකාරයට ගැසීය.
අටළොස් රියත් උස් ඒ පව්ර අටඉස්බක් දුර වැටුනේය. සූර
නිම්ලයාදෙස බැලීය. ඒතෙමේද ඒ මග නොකැමැතෙත්
44 පව්රපැන නුවර ඇතුළත හිනි. ගොටයිම්බරයා හා සෝණ
තෙමේද එකි එකී දොර බිඳ ඇතුල්වූහ. ඇත්තෙමේ රිය
45 සකක්ද නන්දිමිත්‍ර ගැලතනක්ද ගොටයිම්බර නෙරළු තුරක්
ද නිම්ලතෙමෙ උතුම් කඩුවක්ද මහාසෝණතෙමේ තල්රු
46 කක්ද ථෙරපුත්තාභයතෙමේ මහා ගදුවක්ද ගෙණ වෙන්
වෙන්වම වීථිගතවූවාහු එහි දෙමළුන් සුණුකළෝය.
47 රජතෙමේ සාරමසකින් විජිතනුවර බිඳ එයින් ගිරිල
48 නම් නුවර ගොස් ගිරිල නම් දෙමළා මැරීය. එතැනින්
මහා පරිඛාත්‍රයක් ඇත්තාවූ හිඟුරුවැලින් හාත්පසින් වෙ
49 ළනලදවූ එක් දොරටුවක් ඇති වදනට දුෂකරවූ මහෙ
ළතුඃරට ගොස් සාරමසක් එහි වෙසෙමින් රජතෙමේ

50 මන්ත්‍රයුද්ධයෙන් මහේල රජු අල්වාගත්තේය. එතනින්
අනුරාධපුරයට එන්නාවූ මිහිපල්තෙමේ කසාගලින් ඔබ
51 කඳවුරු පිහිටවී. පොසොන්මස්හි ඒ (ප්‍රදෙකත) නම් වැව
කරවා එහි දියකෙළියේයි. එතැන කළ නුවර පොසොන
52 නගර නම්වේ. ඒ දුටුගැමුණු රජු යුදපිණිස ආබැව් අසා
53 එළාලරජතෙමේ ඇමැතියන් රැස්කරවා “ඒ රජ තෙමේත්
යෝධය ඔහුගේ යෝධයෝත් බොහෝල ඇමැතියනි කුමක්
54 කටයුතුද අපගේ මේ පිරිස කුමක් සිතද්දැ” යි කීයේය.
එළාලරජහුගේ දීඝජන්තු ආදිවූ යොධයෝ “සෙට යුද්ධ ක
රන්නමෝය” යි මෙසේ නිශ්චය කළෝය.

55 දුටුගැමුණු රජතෙමේත් මෑනියන්හා මන්ත්‍රණයකොට
ගෙණ ඒ බිසවුන් උපායෙන් දෙතිස් බලකොටුවක් කරවී.
56 එහි රාජච්ඡත්‍ර ධරන්නාවූ(දෙතිස්)රජරුවක් තැබූයේය. මිහි
57 පල්තෙමේ අභ්‍යන්තර කොටුවෙහි සිටගත. එළාල රජ
තෙමේ යුද්ධයට සැරසුනේ මහාපර්වත නම් ඇතුනැගී යාන
58 වාහන හා බලසෙන් සමග එහි ගියේය. යුද්ධ පවත්නා
කල භයඞ්කරවූ මහත් බලඇති දීඝජන්තුතෙමේ කඩුපලග
59 ගෙණ යුදකෙරෙමින් අටළොස් රියන් පමණ අහසට පැන
ඒ රජරුව කඩුවෙන් පැහැර පළමු බලකොටුව බින්දේය.
60 මහත් බලඇත්තේ එසේම සෙසු බලකොටුද බිඳ ගැමුණු
රජු සිටි බලකොටුව බලා ගියේය.

61 ඒ සුරනිම්ල යෝධතෙමේ මහා බලඇතෙන් රජු ඉදිරියට
යන්නාවූ ඔහුට තමන් නම අසවා ආක්‍රොශ කෙළේය. දීඝ
62 ජන්තුතෙමේ කිපියේ උහු මරනෙනමැයි අහසට නැංගේය,
නිම්ලතෙමේ බස්නාහට පලග එලවී. දීඝජන්තුතෙමේ
63 පලග සහිත මොහු කපමැයි සිතා කඩුවෙන් පලග පහ
64 ළේය, නිම්ලතෙමේ පලග හැර බිම වැතිරගත්තේය, දීඝ
ජන්තුතෙමේ හළ පලග පහරමින් එහි හිනි, සුරනිම්ලතෙ
65 මේ (නැගිට) වැටුනහු කඩුවෙන් පහළේය (දෙපලුකොට
කැපීය). ඵුස්සදෙවයා සක පිඹිය දෙමළසෙන් බිඳිනි.
එළාලරජද නැවැත්තේය (හැරීගියේය) බොහෝ දෙම
66 ළුන් මැරැහු. එහි වැවදිය මරණලද දෙමළුන් ලෙයින්
කැලැත්විය එහෙයින් නමින් කලත් වැවයි ප්‍රසිද්ධවී.

67 එහිදී දුටුගැමුණු මිහිපල්තෙමේ “මාහැර අනිකෙක් එළා
68 ලරජු නොමරව” යි බෙර හසුරුවා සන්නාහ සන්නද්ධවූයේ
එසේම සන්නද්ධකළ කඩොලැතු නැගී තෙමේම එළාලරජු
69 ලුහුබඳිමින් දකුණු වහසල්දොරට ආය; නුවර දකුණු වහ
සල් දොරදී මිහිපලුන් දෙදෙනා යුද්ධකළෝය; එළාලරජ

70 තෝමරය දැමීය. ගැමුනුරජ ඒ වැලකීය. ඒ පච්චත නම්
ඇතු සිය කඩොලෑතුලවා දෙදළින් ඇනනවී, එළාලරජහට
තෝමරය දැමීය. ඇතුසහිත ඒතෙමේ එහි හිනි.

71 එහිදී දිනනලද සඞ්ග්‍රාමඇති ඒතෙමේ යානවාහන බල
සෙන් සහිතව ලක එකසත්කොට නුවරට වනෙන්ය.
72 නුවර අණබෙරලවා හාත්පස යොදුනෙක මිනිසුන් රැස්කර
වා එළාල රජහට සත්කාර කරවී. සිරුර වැටුනතැන්හිදී
73 (කුළුගෙයකින්) ඒ මිනිය දැවීය. එහි චිතකයක්ද කරවී
74 පෙළහරද දුන්නේය. අදදක්වාත් ලක්දිව්හි රජදරුවෝ
ඒ පෙදෙස සමීපගතවූවෝ එම පෙළහරින් තූර්‍යවාදනය
75 නොකරවති. මෙසේ ඒ දුටුගැමුනු රජතෙමේ දෙතිස් දෙමළ
රජකෙනෙකුන් අල්වාගෙණ ඒකච්ඡත්‍රයෙන් ලඞ්කා රාජ්‍යය
කෙළේය.

76 විජිතනුවර බින්දකල ඒ දීඝජන්තු යොධතෙමේ බෑනා
යොධබැව් එළාලරජහට දන්වා තමා බෑන ඒ හල්ලූකය
77 හට මෙහි (ලක්දිව්) එනු පිණිස (හසුන්) යැවීය. හල්ලූක
තෙමේ ඔහුගේ (හසුන්) අසා එළාල රජු දැවූ දවසින් සත්
78 වෙනි දවස්හි සැටදහසක් මිනිසුන් සමග මෙහි ගොඩබටු
79 යේය. ගොඩබටුවාවූ ඒතෙමේ ඒ රජහු වැටුනුබැව් අසා
80 "ලජ්ජායෙන් යුදකරනෙනමැ" යි මහතොටින් මෙහි ආයේ
ය. කොලඹහාලක නම් ගම කඳවුර පිහිටවී. රජතෙමේ
81 ඔහු ආබැව් අසා යුඬසන්නාහයෙන් සන්නද්ධව කඩොලෑතු
නැගී හස්ති අශ්ව රථ යොධයන් හා පදික සේනාවෙන්ද
සම්පූර්ණව යුදපිණිස නික්මුනේය.

82 ලක්දිව්හි අග්‍ර ධනුර්ධරවූ ඒ උන්මාද ඵුස්සදෙවතෙමේ
පඤ්චායුධ සන්නද්ධවූයේ එම ඇතුපිට රජහට පසු ආසනයෙහි
83 ගියේය. සෙසු යොධයෝද ඒ අනුව ගියෝය. එහි මහායුද
පැවතිකල සන්නාහ සන්නද්ධ හල්ලූකතෙමේ රජු ඉදිරියට
84 ආයේය. කඩොල හස්තිරාජ වනාහී ඔහුගේ වේගමන්දීභාවය
පිණිස සෙමෙන් සෙමෙන් පසුබැස්සේය. සේනාවද ඒ
85 කැටිවම සෙමෙන් සෙමෙන් පසුබැස්සාය. රජතෙමේ "ඵුස්ස
දෙවය පෙර අටවිසි යුඬයෙහි මේ ඇත්තෙතෙම් පසුනොබැස්
86 සේය මේ කිමෙක්දැ" යි කීයේය. ඒතෙමේ "දේවයන්
වහන්ස අපට උත්කෘෂ්ට ජයසී, මේ ඇත්තෙමේ ජයභූමිය
බලමින් පසුබසී, ජයස්ථානයෙහි සිටිනේය" යි කියේය.

87 ඉක්බිති ඇතෙතමේ පසුබැස පුරදෙවොලට පසෙකින්
මහාවිහාර සීමාතුළ සුප්‍රතිෂ්ඨාවෙන් සිටගත. ඇත්රජු එහි
88 සිටිකල හල්ලූකතෙමේ එහි රජු ඉදිරියට අවුදින් රජහට

පිරිහෙලා කථාකොළේය. රජතෙමේ කඩුවෙන් මුවවසා
89 ගෙණ ඔහුට ආක්‍රොශ කෙළේය "රජහු මුඛයෙහි විදිනෙ
මැ"යි හේතෙමේ ඊය විදපීය. ඒ ඊගස කඩුතලයෙහි වැද
90 බිම හිනි. "මුඛයෙහි විදිනලද"යි යන සංඥාවෙන් හල්ලුක
91 තෙමේ මහත් ජයනාද කෙළේය. රජහට පසු අස්නෙහි
උන්නාවූ මහත් බලඇති ඵුස්සදෙවතෙමේ රජහු කණ මිණි
කොඩොල ගටමින් හල්ලුකයා මුඛයෙහි හියක් විදපීය.
92 රජුදෙසට පාහෙලා වැටෙන ඔහුගේ දනට කෘතහස්තවූයේ
අනික් හිගසෙක් විද රජුදෙසට ඉසලා උහු හෙළීය. හල්
93 ලුකයා වැටුනුකල ඒ යුධාගනයෙහි මහත් ජයනාද පැවැත්
තේය.
94 ඵුස්සදේවතෙමේ එහිදී තමා දෙස්දක්වන්ට සවිතිය කත්
වැල කඩා ලේපතක් තෙමේම රජහට දැක්විය. රජතෙමේ
95 ඒ දැක (මේ) කිමෙක්දැයි විචාළේය. ඒතෙමේ "මාවිසින්
රාජදඬනය කරණලද"යි රජහට කීය. "තා දෙස් කවරේ
96 දැ"යි කියනලදුයේ කුඩල සවානය කීයේය. "මලනු
වෙනි නිදෙස දෙසැයි යන සංඥාවෙන් මේ කුමක් කෙළේ
97 ද" මෙසේ කියා මහරජතෙමේ කෙළෙනිගුණ දන්නේ
"හියට සුදුසුවූ මහත් සත්කාරය තට වන්නේය"යි මෙසේත්
කීයේය.
98 ඉක්බිති සියලු දෙමළුන් මරවා ලබනලද ජයඇති රජ
තෙමේ ප්‍රාසාදතලයට නැගී එහි සිංහාසනයෙහි හුන්නේ
99 නළු ඇමැතියන් මැද ඵුස්සදේවයා විසින් විදිනලද ඒ හිය
100 ගෙන්වා තලය සෘජුකොට පගිලියෙන් තබ්බවා මතුමත්
තෙහි කහවණු වගුරුවා ඒ ඊය වස්වා එකෙණෙහි ඵුස්ස
දේවයාහට දුන්නේය.
101 ඉක්බිති නරේන්ද්‍රතෙමේ අලඞකාර කරණලද සුවඳ
තෙල් පහනින් අළුකළාවූ නොයෙක් සුවඳින් සමාකීර්ණවූ
102 නාටකජනයාගේ සමායෝගයෙන් දිව්‍යපසරාවන් විසින්
103 සෙසින් හෙබියාවූ රජගේ මතුමහල් තලයෙහි මහගු ඇතී
රිලි අතුළාවූ මොලොක් මනා සයනයෙහි හොත්තේ
104 මහත්වූ ශ්‍රීවිභූතිය බලාත් කරණලද අක්ෂෞහිණී සේනා
ඝාතය සිහිකරන්නේ සැපනොලත්තේය (සුවසේ නිදන්ට
105 නොහැකිවී). පූවගු දිවයින් වැසි රහත්හු ඔහුගේ ඒ කල්ප
නාදැන ඒ ඉසුරුහු ආශ්වාස කරවන්ට රහතුන් අටදෙනෙක්
එවූහ. ඒ රහත්හු මැදියම අවුදින් රජගෙදොර බැස්සාහ.
106 දන්වනලද අහස් ගමන් ඇත්තෝ මතුමහලට නැං
ගෝය. මහරජතෙමේ ඒ රහතුන් වැඳ අස්නෙහි වඩා

107 භිදුවා නානා සත්කාරකොට ආකරුණු විචාළේය. "මනුෂ්‍ය
ශ්‍රෙෂ්ඨයාණෙනි පුවඟු දිවසින සඞ්ඝයා විසින් මෙහෙයන ල
ද්දවූඅපි තොප අස්වසාලන්ට ආඔහසි" යි කීහ. රජතෙමේ
108 නැවත උත්වඟත්සේලාට "ස්වාමීනි යම්හෙයකින් මාවිසින්
අක්ෂෞහිණී මහා සේනාඝාතය කරවනලද්දේනම් එසේවූ
109 මට කෙසේ ආශ්වාසයෙක් වන්නේද" යි කීයේය. "ඒ කර්ම
යෙන් තොපට ස්වර්ග මාර්ගාන්තරායෙකුත් නැතෙත්ය
ජනශ්‍රෙෂ්ඨය මරණලද මිනිස්සුද එකෙක් හා අඩක්වන්
110 තේය. තිසරණ පිහිටි එකෙක තිසරණ පන්සිල් පිහිටි
අනිකෙක සෙසු මරණලද්දාහු මිථ්‍යාදෘෂ්ටි දුස්සීලවූ සිවුපාවුන්
111 සමයෝය. තවද තෙපි බුඩශාසනයත් නොයෙක් පරිද්
දෙන් බබුලුවනෙනාහිය එහෙයින් නරෙශ්වරය චිත්තඛෙදය
112 දුරලව"යි කීවෝය. උත්වඟත්සේලා විසින් මෙසේ වදා
රණලද මහරජතෙමේ ආශ්වාසලත්තේ වැඳ උත්වඟත්
113 සේලා යවා සැතපුනේ නැවත මෙසේ සිතීය. "සඞ්ඝයා
ගෙන් තොරව කිසිකලෙකත් ආහාර නොවලඳවයි ලද
114 රුවූ අප මවුපිය දෙදෙනා ආහාරයෙහි දිවුරවූහ. භික්ෂු
සඞ්ඝයාහට නොදී අප විසින් අනුභවකරණලද කිසිවක්
115 ඇත්තේද්‍ය"යි (පරීක්ෂා කෙරෙමින්) මෙනෙහි නොකොට
පෙරබත්හිදී සඞ්ඝයාට නොතබා අනුභවකරණලද එකම
මිරිස්වැටියක් දුටුයේය. "ඒපිණිස මාවිසින් දඬුවම් කටයුතු
හෝ ඉවසිය යුතු" යයි සිතුයේය.

116 මේ මනුෂ්‍යලෝකයෙහි සත්පුරුෂතෙමේ නොයෙක් කෙ
ළගණන් මරණලද ඒ මේ මනුෂ්‍ය සමූහයත් සිතා මෙය
කාමයන් හේතුකොටයයිද ඒ ආදීනවයද මෙනෙහි කරන්
නේය; තවද සත්පුරුෂතෙමේ සියලලවුන්ගේ අනිත්‍යතා
වය යෙහෙකින් නිවන් නතුකොට සිතනෙන්; එසේම නො
පමාව දුඃඛ විමොක්ෂයටද නොහොත් මනාගතියටද පැමි
නෙනෙනේයි.

මෙතෙකින් භූදිජනයා පහන් සංවෙග පිණිස කළ මහ
වස දුඨගාමිනී විජයනම් පස්විසිවන අදියර නිමි.

---

# 26 වෙනි පරිච්ඡෙදය.

1 මහා යසස්ඇත්තාවූ ඒ (දුටුගැමුනු මහරජ) තෙම ලඞ්කා
රාජ්‍යය එකසත්කොට යොධයන්ට තනතුරු සංවිධාන
2 කෙළේය. ථෙරපුත්තාභය නම් යොධතෙම දෙනලද ඒ

තනතුර නොසිවසූයේය, "කුමක් පිණිසද" යි විචාරණලද්
3 දේ "යුඩයෙක් ඇතැ" යි කීයේය. "යුඩයෙන් එකරාජ්‍යය
කළකල්හි කිනම් යුදයෙක්ද" යි කියාත් පිළිවිසියේය. "කෙ
4 ලෙස් සොරුන්හා අතිශයෙන් දුර්ජයවූ යුඩයක් කරනෙනා
මැ" යි කීයේය. රජතෙම උහු නැවත වැළැක්විය, හෙතෙ
ම නැවත නැවත යාච්ඤාකොට රජහු අනුමතයෙන් පැවිදි
5 විය. පැවිදිවත් (විදශ්‍යිනායොග) කාලයෙහි රහත්බැව් පත්
වූයේ, රහතුන් පන්සියයක් පිරිවරද වූයේය.
6 සේසත් ඔසවන මඟුලින් යුත් සත්දවස ගියකල්හි හයාති
ක්‍රාන්ත කළාවූ අභය නම් ඒ රජතෙම කරණලද රාජාභි
7 ෂෙක ඇත්තේම ක්‍රිඩා කරණුපිණිසද, අභිෂෙක කරණ
ලද (ක්ෂත්‍රිය) යන්ගේ චාරිත්‍රය පාලනයකරණු පිණිසද
මහාක්‍රිඩා විධියෙන් මොනවට සරසනලදුවූ තිසාවැවට
8 සම්ප්‍රාප්තවූයේය. රජහුගේ සියලු පරිභොග භාණ්ඩ ජනයද
(ගෙණෙනලද) සියගණන් පඬුරුද මිරිසවැටි වෙහෙර
9 (පිහිටන) තන්හි තැබූහ. එහිම ථූපය (පිහිටන) තන්හි
කුන්තායුධය උසුලනනාවූ රාජපුරුෂයෝ ධාතුසහිතවූ කු
10 න්තායුධය ඍජුකොට තැබූහ. මහරජතෙම අන්තඃපුර වා
සීන් සහිතවූයේ දිවාභාගයෙහි ජලයෙහි ක්‍රිඩාකොට සවස්
වේලෙහි "හවත්නි යනුකැමැත්තම්හ කුන්තායුධය වඩව්
11 ය" යි කීයේය. රාජපුරුෂයෝ ඒ කුන්තායුධය සොලවනු
12 නොහැකිවූහ, රැස්වූ රාජසේනාවෝ සුවඳමලින් පිදූහ. රජ
තෙම ඒ මහත් ආශ්චර්‍ය්‍යය දැක සතුටු සිත්ඇත්තේ, එහි
13 ආරක්ෂා සංවිධානකොට පුරයට ප්‍රවිෂ්ටව නැවත එහි කුන්තා
යුධය පරික්ෂිප්තකරවා චෛත්‍යයක් කරවූයේය, ඒ වෙහෙර
14 තුන්නවුරුදුකින් නිමවිය, ඒ නරෙශ්වරතෙම විහාරපූජ
15 කාරණයෙන් සඞ්ඝයා රැස්කරවූයේය. එදවස රැස්වූ
16 භික්ෂූන් ලක්ෂයක්වූහ, භික්ෂුණීහුද අනූදහසක්වූහ. මිහි
පතිතෙම ඒ සමාගමයෙහිදී සඞ්ඝයාට මෙය සැලකෙළේය.
"වහන්ස සඞ්ඝයා සිහිනොකොට මිරිස්වැටියක් අනුභව කෙ
ළෙමි, ඊට දඬුවම් වේවයි චෛත්‍යය සහිතවූ අතිශයින්
18 සිත්කළුවූ මිරිසවැටිවෙහෙර කරවීම් එය සඞ්ඝතෙමේ පිළි
ගන්නා සේක්ව" යි කියා සතුටු සිත්ඇත්තාවූ හෙතෙම
දක්ෂිණෙදකය වගුරුවා විහාරය භික්ෂුසඞ්ඝයාට දුන්නේය.
19 එම වෙහෙරද ඒ වෙහෙර හාත්පසද යහපත්වූ මහාමණ්ඩප
කරවා එහි සඞ්ඝයාට මහදන් පැවැත්වූයේය, අබාවැව ජල
යෙහිදු ටැම් සිටුවා ඒ මණ්ඩපය කරණලද්දේවිය, අව
20 ශෙෂවූ අවකාසයෙහි (කළ මණ්ඩපයන්) කියනුම කවරේද?

21 නරේශ්වරතෙම සත්දිනක් මුළුල්ලෙහි ආහාර පානාදිය (සඞ්ඝයාට) දී ශ්‍රමණ සාරූප්‍යවූ මාගැහි සියලු පිරිකර දුන් 22 නේය. ඒ ප්‍රථම පරිෂ්කාරයතෙම ලක්ෂයක් අගණේවිය, අනතිමවූ පරිෂ්කාරයතෙම දහසක් අගණේවිය, සඞ්ඝ තෙමේම ඒ සියල්ල ලත්සේක.

23 යුඬයෙහි හා දානයෙහි සූරපණ්ඩිතවූ රත්නත්‍රය කෙරෙහි ප්‍රසන්න නිර්මල සිත්ඇත්තාවූ ශාසනය බබලවනු කැමැතිවූ 24 කෘතොපකාර දන්නාවූ ඒ නරනිඳුහු විසින් රත්නත්‍රය පුදනු පිණිස ථූපය කරවීම පටන් විහාරපූජාව අවසන්කොට 25 ඇති මෙහි පරිත්‍යාග කරණලද ධනයෝ අනර්ඝ වස්තූන් හැර සෙසෙසෝ පමණක් එකුන් විසිකෝටියක් වෙති.

26 (අග්නිආදී) පචවිධ දෝෂයෙන් දූෂිතවූද භොගයෝ ප්‍රඥා විශෙෂයෙන් යුක්තවූ ජනයන් විසින් පැමිණියාහු (බහුජන ප්‍රියතාදිවූ) පචගුණයන් හා යෙදීමෙන් ගන්නාලද සාර ඇතිවෙත්යයි සිතා ඒ භොගයාගේ සාරග්‍රහණයෙහි නුව නැතොත් උත්සාහ කරණෙනේය.

මෙතෙකින් හුදිජනයා පහන්සංවේග පිණිස කළ මහ වංශ මරිචවට්ටි විහාරමහ නම්වූ සව්සිවන අද්‍යර නිමි.

---

# 27 වෙනි පරිච්ඡේදය.

1 ඉක්බිතෙතාන් ප්‍රසිඬවූ මනාකොට අසනලද්දවූ ඇසීම විශෙෂයෙන් සිතුයේය, "ලඞ්කාද්වීපය පැහැදවූ සැම කල්හි 2 පවිත්‍රවූ මහපිණැති ස්ථවිරයන්වහන්සේ ප්‍රඥාවෙන් කරණ 3 ලද නිශ්චය ඇතිසේක් මාගේ මුත්තනුවූ රජහට මෙසේ වදාලේල——තොපගේ මුනුබුරුවූ දුටුගැමුනු යන නමින් යුක්තවූ මහපිණැති මිහිපතියෙක් තෙම අනාගතයෙහි 4 මනොහරවූ එකසිය විසිරියන් උස්වූ සොණ්ණමාලි නම් මහාථූපය කරවනෙන්ය, නැවතද ලෝහප්‍රාසාදයක් වන පොහෝගෙයක්ද නවමහල්කොට කරවන්නේය" යන 5 මේසි. පෘථිවීශ්වරතෙම මෙසේ සිතා මෙසේ ලියාතබන ලඳක් බලවන්නේ රජගෙයි කරඬුවෙක්හිම තිබුනාවූ රන් 6 පට ලැබ එහි ලෙඛනය කියවූයේය. "වර්ෂ එක්සිය සතළිසක් ගෙවා අනාගතයෙහි කාවන්තිස් මහරජහු පුත්‍රවූ දුටුගැ

7 මුනු නම් නිර්දෙක් තෙම මේ මේ දෙයද මෙසේද කරවන්
නේය"සි කියවනලද්ද අසා සතුටුවූ මහීපතිතෙම ප්‍රීතිවාක්‍ය
8 පවත්වා අත්පොළසන් දුන්නේය. ඉක්බිත්තෙන් උදෑසන
යහපත්වූ මහමෙවුනා උයනට පැමිණ භික්ෂූසඞ්ඝයා රැස්
9 කරවා "නුඹවහන්සේලාට මම දිව්‍යමන්දිරයක් සමානවූ
10 ප්‍රාසාදයක් කරවන්නෙමි දිව්‍ය විමානයකට යවා එහි ආකාර
සිතියමක් මට ගෙන්වා දෙනසේක්වා"යි කීයේය, භික්ෂූ
11 සඞ්ඝතෙම රහත් අටනමක් එහි යැවූසේක. කාශ්‍යප සර්ව
ඥයන් වහන්සේගේ කාලයෙහි අසොක නම් බ්‍රාහ්මණයෙක්
තෙම ලහබත් අටක් සඞ්ඝයාට පිරිනමා හෙතෙම (ඒ බත්)
12 'නිබද දෙව"යි භරණී නම් දැසියට කීයේය, ඕතොමෝ
ඒ බත් සකස්කොට ජීවිතාන්තය දක්වා දී එයින් චුතවූවා.
13 සිත්කළු යහපත්වූ ආකාශස්ථ විමානයෙක්හි උපන්නීය.
සැමකල්හි දිවසරත් දහසක් විසින් පිරිවරණලද්දී විය.

14 ඇගේ රතන ප්‍රාසාදය තෙම දොළොස් යොදුනක් උස්
15 විය අවට යොදුන් අටසාළිසෙක, කුළුගෙවල් දහසකින්
සැරසුනේ නවමහල් විය, දහසක් ගබඩාවෙන් සමන්විතවූ
16 යේ සතරදිගට මුඛඇතිව බබලන්නේය, දහසක් මනාව
පැවති සිවුමැදුරු කවුළු නැමැති නෙත්ඇත්තේය, කිංකි
ණීදැල් සහිතවූ පිළිකඩින්ද සැදුම් ලද්දේය.

17 ඒ පහය මැද අම්බඞ්ක නම් ප්‍රාසාදයක් පිහිටියේය, නාග
18 නලද ධ්වජයෙන් ආකූලවූයේ හාත්පසින් පෙණෙන්නේය,
ඒ ස්ථවිරයෝතුමූ තව්තිසා දෙව්ලොව වඩනෝ ඒ පහය දැක
19 දැහිඟුලෙන් වස්ත්‍රයෙක්හි ඒ විමානාකාරය සිතියම් කො
ටගෙණ එතැනින් නැවති ආගමනයකොට වස්ත්‍රය සඞ්ඝ
යාට දැක්වූහ. සඞ්ඝතෙම ඒ වස්ත්‍රය රැගෙන රජුකරා යැවූ
20 සේක ඒ දැක සතුටුසිත් ඇත්තාවූ රජතෙම උතුම්වූ ආරා
මයට අවුත් ඒ සිතියම් ආකාරයට උතුම්වූ ලෝහ ප්‍රාසාදය
21 කරවූයේය. භොගඇත්තාවූ නරේන්ද්‍රතෙම ප්‍රාසාද කර්මය
ආරම්භකරණ කාලයෙහිම සතරදොර අටලක්ෂයක් කහවණු
22 තැබ්බවූයේය, (එහි) දොරක්පාසා දහස් ගණන් පිළිපොදිද
සිනි තලතෙල් සකුරු මීපිරූ නොයෙක් සැළිද තැබ්බවූ
23 යේය. මෙහි නොමිළයේ කරණ කර්මයක් නොකටයුතු
යයි කියා කළකම් අගය කරවා ඒ කම්කරුවන්ට වැටුප්මිළ
24 දෙවූයේය. එක එක පසින් රියන් දහස දහස වූයේය, සතර
25 දොර ඇත්තාවූ ඒ ප්‍රාසාදයතෙම උසින් එපමණ වූයේය, ඒ
26 ශ්‍රෙෂ්ඨවූ ප්‍රාසාදයෙහි මහල් නවයක්වූහ, එක එක මහ
ලෙහි කුළුගෙවල් සියයක් සියයක් වූහ, සියළු කුළුගෙවල්

27 රිදියෙන් නිමවනලද්දාහ, ඒ කූටාගාරයෙන් සම්බන්ධවූ පබළු
පළිකඩ නානාවිධ රත්නයෙන් සැදුම්ලද්දාහ, ඒ පිළිකඩ
සම්බන්ධවූ පියුම්ද නානාවිධ රත්නයෙන් විචිත්‍රවූහ, ඒ වේදි
28 කාවෝ රජතාමය කිංකිණී පෙළින් පරික්ෂිප්තවූහ. ඒ පහ
යෙහි මනාකොට සදනලද ගබඩා දහසක් නානාවිධ රත්න
29 යන් ඔබ්බන ලද්දාහ, සිවුමැදුරුනෙත්ඇතිවූහ, ඒ නරේ
න්ද්‍රතෙම වෛශ්‍රවණ දෙවරාජයාගේ නාරිවාහන නම් යානා
30 වගේ පරිදි අසා එබඳුවූ රත්නමණ්ඩපයක් ප්‍රාසාද මධ්‍යයෙහි
කරවූයේය. මේ මණ්ඩපයතෙම සිංහ ව්‍යාඝ්‍රාදී රූපයෙන්ද
31 දෙවතා රූපයන්ද ඇත්තාවූ ටැඹින් අලංකෘත වූයේය.
මෙහි මණ්ඩපාන්තයෙහි හාත්පස මුතුදැලින් වටකරණ
32 ලද්දාවූ පෙර කියනලද පරිදිවූ වේදිකාවක්ද විය. සප්තවිධ
රත්නයෙන් විචිත්‍රවූ මණ්ඩපයාගේ මධ්‍යයෙහි රම්‍යවූ පළිඟු
33 අතුළ සිත්කළු උතුම් පළඟක් (පිහිටුවන ලද්දේය) මේ පළ
ඟෙහි දන්තකර්මයෙන් නිමවනලද අපාශ්‍රය සඞ්ඛ්‍යාත පිට
අටුවක්ද රණින් නිවමනලද හිරුමඬලක්හා රිදියෙන්
34 නිමවනලද සඳමඬලක්ද මුතුපෙළින් නිමවනලද තාරකා
රූපද පිහිටුවනලදහ). ඒ ඒ තන්හි සුදුසු පරිද්දෙන් නානා
රත්නමයවූ පියුම්ද, එහිම රත්ලිය අතර ජාතකද (සටහන්
35 කරණලද) වූහ. මාහැඟි පසතුරුණුඇති අතිශයින් සිත්
කළුවූ පළඟෙහි තබනලද ශොභාමත්වූ දන්තමය විජිනි
36 පත සිත්කළුවිය. එහි පළිඟු මතුයෙහි පබළු පාදුකාවක්
පිහිටියේය; පළඟ මතුයෙහි රිදී මිටින් යුක්තාවූ සේසත
37 හෙබියේය. මෙම ඡත්‍රයාගේ අන්තයෙහි සප්තවිධ රත්න
යෙන් කරණලද අෂ්ටමංගලිකාකාර රූපයෝද මිණිමුතු
38 අතරතුර ඇතිවූ චතුෂ්පාද රූප පන්තිහුද වූහ. ඡත්‍රයාගේ
අන්තයෙහි එල්බුනාවූ රිදී මිණිගෙඩි පන්තිහුද වූහ. ප්‍රා
සාදය ඡත්‍රය පර්‍ය්‍යඞ්කය මණ්ඩපය යනමොහු අනර්ඝවූහ.
39 සුදුසු පරිද්දෙන් මාහැඟිවූ ඇඳපුටු පැණවූයේය, එසේම
40 බුමුතුරුණුද මාහැඟි පලසක්ද විය. ඒ ප්‍රාසාදයෙහි රණින්
නිමවනලද ධොවන ජලය තබන සැළද කිණිසැසද වූයේය,
ප්‍රාසාදයෙහි පරිභොගවූ සෙසු බඩු කියනුම කවරේද?
41 සතර දොරකොටු ඇත්තාවූ මනොඥවූ ප්‍රාකාරයෙන් පරි
ක්ෂිප්තවූ ඒ ප්‍රාසාදයතෙම තව්තිසා දෙව්ලොව (සුධර්මා
42 නම්) සභාවසේ සරසනලද්දේවිය. මේ ප්‍රාසාදයතෙම තඹ
ලෝ උළින් වසනලද්දේය. එහෙයින් ඒ ප්‍රාසාදයට ලොහ
43 ප්‍රාසාදය යන නාමය වූයේය. ඒ නරේන්ද්‍රතෙම ලෝවාමා
පහය නිමවූ කල්හි සඞ්ඝයා රැස්කරවූයේය, මිරිසවැටි

44 විහාර පූජායෙහි මෙන් සඞ්ඝයා රැස්වූසේක. පළමුවෙනි මහලෙහි පෘථග්ජන භික්ෂූහුම සිටියහ, දෙවෙනි මහලෙහි ත්‍රිපිටකධර භික්ෂූහු සිටියහ, සෝවාන් ආදිවූ ආර්‍ය්‍යයෝ වනා
45 හී තුන්වෙනි මහල ආදිවූ එක එක මහලෙහි වැඩසිටියෝය, උඩ සිවුමහල්හි රහතුන් වහන්සේලාම වැඩ සිටියහ.

46 නරේන්ද්‍රතෙම දක්ෂිණෝදකය පෙරටුකොට ප්‍රාසාදය සඞ්ඝයාටදී සත්දවසක් මුළුලෙහි පූර්වවූ මිරිසවැටි වෙහෙර
47 මහදන මෙන් මහදන්දින. මහා පරිත්‍යාග ඇත්තාවූ නරේන්ද්‍රයන් විසින් ප්‍රාසාද පූජායෙහි පරිත්‍යාග කරණලද වස්තු අනර්ඝ වස්තූන් හැර තිස්කෙළක් (කහවණු) අගනාහු වූහ.
48 නිඃසාරවූ වස්තුවෙන්ද රැස්කිරීමෙහි විශෙෂවූ සාරය දානයවසයෙන් යහපත් ප්‍රඥාඇත්තාවූ යම් ජනකෙනෙක් ප්‍රමාණ කෙරෙද්ද, ඒ සත්ත්වයන්ගේ වැඩ පරම්කොට ඇත්තාවූ ඒ ජනයෝතුමූ පහවූ චිත්තාලය ඇතිව විපුලවූ දානය මෙසේ දෙන්නාහුය.

මෙතෙකින් සුජනයා පහන්සංවේග පිණිස කළ මහ වස ලොහපාසාද මහනම්වූ සත්විසිවන අදියර නිමි.

---

# 28 වෙනි පරිච්ඡෙදය.

1 ඉක්බිතෙතන් ඒ මිහිපතිතෙම ලක්ෂයක් වියදම්කොට
2 උදාරවූ උතුම් මහාබොධි පූජාවක් කරවූයේය. ඉක්බිති නුවර වදනේ සැතන්හි පිහිටුවනලද්දාවූ ගල්ටැඹ දැක (තමන්
3 කටයුතු පිණිස) පෙර (ලියාතබන ලද්දෙන් ලත්) ඇසීම සිහිකොට, මහසෑය කරවන්නෙමැයි (සිතා) සතුටුවූයේ මහාප්‍රාසාද තලයට නැගී බොජුන් අනුභවකොට රාත්‍රියෙහි
4 ශයන ප්‍රාප්තවූයේ මෙසේ සිතුයේය. "දෙමළුන් මඩනාවූ මාවිසින් මේ ජනයා පෙළනලද්දේය, (එහෙයින් ජනයාගෙන්) අය උපයනු නොහැක්කේය, ඒ අය ගැණීම හැර
5 සෑය කරවනනාවූ මම කෙසේ දැහැමින් ගඩොල් උපයම්

දැ"යි මෙපරිද්දෙන් සිතනනාහුගේ සිත සේසත වසන දේව
6 තාතොමෝ දැනගත, එයින් දෙවියන් අතර කොලහල
වීය, ශක්‍රදෙවේන්‍ද්‍රතෙම ඒ දැන විශ්වකර්ම්ම දිව්‍යපුත්‍රයාට
7 අණකෙළේය. "ගොස් අනුරාධපුරයෙන් යොදුනක් තන්හි
ගම්භීර නම් නදිය සමීපයෙහිවූ ඒ ස්ථානයෙහි ගඬොල්
මවව"යි සක්දෙව් රජහු විසින් අණවනලද්දාවූ විශ්වකර්ම්ම
8 තෙම මෙහි අවුත් එතන්හි ගඬොල් මැද්දේය. අලුයම්
කාලයෙහි එහි වැද්දෙක් සුනඛයන් හා සමග වනයට ගි
9 යේය. භූමාටු දෙවතාවක්තොමෝ ගොධා වෙශයෙන් වැද්
10 දාට තමා දක්වීය, ඒ ගොයා ලුහුබැඳ යනනාවූ වැදිතෙම
ගොස් ගඬොල් දැක, ගොයා අතුරුදන්වූ කල්හි එහි සිට
11 මෙසේ සිතුයේය. "අපගේ මිහිපතිතෙම මහසෑයක් කර
වනු කැමැතෙත්ල, උත්වහන්සේට මේ පඬුරෙකැ"යි සිතා
ගොස් සැලකෙළේය.

12 ජනයා වැඩෙහි ඇලුනාවූ රජතෙම ඔහුගේ ඒ ප්‍රිය වච
නය අසා සතුටු සිත්ඇතෙත් ඔහුට මහත්වූ සත්කාරකර
වූයේය.

13 පුරයෙන් ඉසානදෙස තුන්යොදුනකින් මතෙහි ආචාර
විටි නම් ගම සොළොස්කිරියක් පමණවූ භූමිප්‍රදෙශයෙහි
14 ප්‍රමාණයෙන් නානාප්‍රකාරවූ ස්වර්ණ බීජයෝ උපන්හ,
උඩත් පිරිසෙයින් වියත් පමණ යටත් පිරිසෙයින් අඟුල්
15 පමණද වූහ. ස්වර්ණයෙන් පිරුණවූ ඒ භූමිය ඒ ගම්
වැස්සෝ දැක, තලියක් පිරූ රන් ගෙණගොස් රජහට සැල
16 කළහ.—පුරයෙන් ඉදුරුදෙස සත්යොදනකින් මතෙ
17 හි ගඟ එතර තඹවිටි නම් ගම තඹලෝ උපන, එගම් වැස්
සෝ තලියකින් තඹලොහො බිජුවට ගෙණ රජ්ජුරුවන්
18 කරා එළඹ ඒ කාරණයද සැලකළහ.—පුරයෙන් ගිනි
කොන් පෙදෙස සතරයොදුනක් දුර සමින්වැව් නම් ගම
19 බොහෝ මැණික් උපන්හ, එගම්වැස්සෝ උපුල් කුරුවින්ද
20 ගල්හා මිශ්‍රවූම (ඒ මැණික්) තලියකින් ගෙණවුත් රජහට
සැලකළහ.—නුවරින් දකුණුපස අටයොදුන් මතෙහි
21 අඹඨ්ථකොල නම් දනවුවෙහි ලෙනක රිදී උපන, නුවරවැසි
වෙළදෙක්තෙම බොහෝ ගැල්ගෙණ මලයරටින් හිඟුරු
22 ආදිය ගෙනෙන පිණිස ඒරටබලා යනුයේ ලෙණට නුදුරු
23 තන්හි ගැල් තබවා, කැවිටිලි සොයන්නේ ඒ පර්වතයට
නැංගේය. සැලියක් පමණ පලයක් ඇත්තාවූ පලබරින්
24 නැමුනාවූ කොස් පැලයද ගලක්පිට පිහිටි ඒ පලයද දැක
එය පිහියෙන් තුවටුව කපා "අගස් දනක් දෙමැ"යි සිතා

25 ශ්‍රද්ධායෙන් සඞ්ඝයාට කාලඝොෂා කෙළේය, රහත් සතර නමක් වැඩියහ, සතුටුදිියේ උත්වහන්සේලා වැඳ, ආදර සහිතව වැඩහිඳුවා, පිහියෙන් එය තුවට්ටුව හාත්පස සිව්ය කපා
26 වහලල මුඳු ආවාටය පුරා සිටි යූස පතිත් ගෙණ යූසින් පුර වනලද ඒ පාත්‍ර සතර උත්වහන්සේලාට ප්‍රදානය කෙළේය.
27 උත්වහන්සේලා ඒ පිළිගෙණ වැඩියහ, ඒ වෙළඳතෙම නැවතත් කාලඝොෂා කෙළේය. අනාගාමී අභීත් ස්ථවිරයෝ
28 සතර නමක් එහි වැඩියහ. හෙතෙම උත්වහන්සේලාගේද පාත්‍රයන් ගෙණ වරකාමදුලෙන් පූරවා පිළිගැන්වූයේය, උත්වහන්සේලා අතුරෙන් තුන්නමක් බැහැරවැඩියාහුය,
29 එක්වහන්සේ නමක් නොවැඩියසේක. ඒ ස්ථවිරයන්වහන්සේ ඕහට රිදී දක්වනු පිණිස එතැනින් බැස, ලෙණසමීප
30 යෙහි වැඩහිඳ, ඒ මිදුලු වැළඳූසේක. වෙළඳ තෙමේද ඉතිරිවූ මදුලු කුසපොහොනාතෙක් අනුභවකොට, ඉන් අවශෙෂය පොදියකින් ගෙණ ස්ථවිරයන්වහන්සේගේ පා අනුව
31 ගියේය. ඒ ගොස් ස්ථවිරයානන් දැක වනාවත්ද කෙළේය, ස්ථවිරතෙමේද ලෙණදොරින් ඔහුට මාර්ගයක් මැවූසේක.
32 හෙතෙම ස්ථවිරයන් වැඳ ඒ මගින් යනොත් ලෙණ දුටු
33 යේය, ඒ උතුම් වෙළඳතෙම ලෙණදොරසිට රිදීද දැක, පිහි
34 යෙන් ගසා රිදීයයි දැන එක් රිදීපිඩක් ගෙණ ගැල් සමීප යට ගොස් ගැල් එහි තබවා ඒ රිදීපිඩ ගෙණ වහා අනුරා
35 පුරයට අවුත් නරෙන්ද්‍රයන්ට රිදී දක්වා ඒ කාරණයද දැන්වූයේය.

36 පුරයෙන් බටහිර පස පස්යොදුනකින් මතෙහි උරුවෙල් පටුනෙහි මහ ඇඹුලුපල පමණවූ මුතුපල අතරතුර
37 පබලු සමග මුහුදින් ගොඩනැංගාහ. (ඒ මුහුදුබඩ වැසි) කෙවුලෝ ඒ දැක පබලු සහ මුතු එකතුකොට ගෙණ තලිය
38 කින් ගෙණවුත් රජ්ජුරුවන්කරා එළඹ ඒ කරුණද සැලකළහ.——නුවරින් උතුරුපස සත් යොදුනකින් මතෙහි
39 පෙළවැව් නම් ගම වැවපිව්සි කඳුරැලියෙහි වැලිපිට ඇඹ
40 රුම්ගල් පමණ දියමෙරලිමල්වන් පැහැඇති යහපත් උතුම් මිණිරුවන් සතරක් උපන්හ. බලුවැද්දෙක්තෙම ඒ
41 දැක රජ්ජුරුවන් වෙත අවුත් "මාවිසින් මෙබඳු මිණිරුවන් දක්නා ලදහ"යි සැලකළේය, මහපැණැති මහපිණැති ඒ
42 රජතෙම මහසෑය පිණිස උපන් ගඩොල්ආදී මේ ද්‍රව්‍යයන් එදවස්ම ඇසූයේය. සතුටු සිත්ඇතෙත් සුදුසු පරිද්දෙන් (ප්‍රවෘත්ති දැන්වූ) ඔවුන්ට සත්කාර කොට ඔවුන්ම රැක වරණ කරුවන්කොට ඒ සියලු ද්‍රව්‍යයන් ගෙන්වාගත්තේය.

43 කය උපන් නොයිවසියහැකිවූ ඛෙදයද නොසලකා ප්‍රසන්න සිත්ඇත්තාහු විසින් මෙසේ රැස්කරණලද්දාවූ පුණ්‍යය සැපයට ආකරවූ උපකරණ සියයන් සිදුකෙරේ මෙසේ ප්‍රසන්න සිත්ඇත්තේම පින්කරනෙන්ය.

මෙතෙකින් ශුදිජනයා ප්‍රසාද සංවෙග පිණිස කළ මහවස මහාථූපසාධනලාභ නම්වූ අටවිසිවන අදියර නිමි.

---

# 29 වෙනි පරිච්ඡේදය.

1 එමසේ උපකරණ සම්පූර්ණවූ කල්හි වෙසග පුර පසළොස්වක විසානකත පැමිනි කල්හි මහසෑය පිණිස ආරම්භ 2 කෙළේය. මිහිපල්තෙමේ එහි ගල්ටැඹ පහකරවා අනෙක ප්‍රකාරයෙන් ස්ථිරකරණු පිණිස සැතැන සත්රියනක් කැණ 3 වූයේය. අර්ථානර්ථ දැන්මෙහි දක්ෂවූ නරෙන්ද්‍රතෙම එහි සුණු ගල් යොධයන්ලවා ගෙන්වා, කුළුගස්වා සුණුකරණ 4 ලද ගල් භූමිය ස්ථිරවන පිණිස සමින් වසනලද පතුල් ඇත්තාවූ මහඇතුන් ලවා මැඩවී.

5 අහස්ගඟ හුනුතන්හි සතතයෙන් තෙත්වූ එහි හාත්පස 6 තිස්යොදුන් බිම මැටිසියුම්. මේ මැටිතොමෝ සියුම් බැවින් වෙඬරු මැටියයි කියනුලැබේ, එතැනින් රහත් සාමණේර 7 වරයෝතුමූ මැටි ගෙණහ. එහි ගල් අතළෙහි මැටි ඇතිර විය, නරෙන්ද්‍රතෙම මැටි මතුයෙහි ගඩොල් ඇතිරවූයේය. 8 ඒ මතුයෙහි සුඛවූ කරගල්ද ඒ මතුයෙහි කුරුවින්ද පාෂාණද ඒ මතුයෙහි යදැල්ද ඉන් මතෙහි බොරළුද ඇතිරවූයේය. 9 පෘථිවීශ්වරතෙම හිමවතින් සාමණේරවරයන් විසින් ගෙණෙනලද පළිඟු ගල් ඒ මතෙහි ඇතිරවූයේය. පළිඟු අතළ 10 මතෙහි ගල් ඇතිරවිය, සැමතන්හි මැටියෙන් කටයුත් 11 තෙහි නවනීත නම් මැටිමවිය. නරෙන්ද්‍රතෙම රසජලයෙන් මිශ්‍රකළ ශිවුල්ල මැලියමින් අටඟුල් බොල් ලොහොපටක් 12 ගල් ඇතිරිය මතෙහිද, ඊමතෙහි තලතෙලින් තෙමන ලද රත්සිරියෙලින් සතඟුල් බොල් රිදීපටක්ද ඇතිරවූ 13 යේය. මිහිපතිතෙම මහසෑය පිහිටන තන්හි විශෙෂයෙන් ප්‍රසන්නවූ සිතින් මෙසේ පිරියම්කරවා, ඇසළමස පුර 14 තුදුස්වක් දවස්හි භික්ෂුසඞ්ඝයා රැස්කරවා "ස්වාමීනි මහ

15 සෑය පිණිස මගුල් ගඩොළ සෙට පිහිටුවන්නෙමි මෙහි
අපගේ (ස්ථාමීවූ) සියලුම සඞ්ඝතෙම රැස්වේවා බුද්ධපූජා
16 යෙදීමෙන් මහජනයාගේ වැඩ කැමැත්තාවූ මහජනතෙ
මේද පෙහෙවස් සිල්ඇතිව සුවඳමල් ආදිය ගෙණ මහසෑය
17 පිහිටුවනතැනට සෙට යේවා" යි මේ වචනය කීයේය.
චෛත්‍යස්ථානය සරසන පිණිස අමාත්‍යයන්ද යෙදූයේය.
18 නරනිඳුහු විසින් අණවූකල්හි සර්වඥයන්වහන්සේ කෙ
රෙහි ප්‍රිය ගෞරව ඇත්තාවූ ඔව්හු ඒ ස්ථානය අනෙකප්‍රකාර
යෙන් සැරසූහ.

19 නරෙන්ද්‍රතෙම මුළු නුවර හා මේ මහාවිහාරයට එනනාවූ
20 මාර්ගයද නොයෙක් ආකාරයෙන් සරසවා උදෑසනම නුවර
21 සතරදොර කරනැවැමියන්ද නහනුද කපුවන්ද එසේම
බොහෝ වස්ත්‍රයන්ද තැබ්බවූයේය, මහජනයාගේ අභිවෘද්ධි
22 යෙහි ඇළුනාවූ පෘථිවීශ්වරතෙම මහජනයාගේ වැඩ පිණිස
සුවඳමල්ද මිහිරි ආහරයන්ද රුචිවූ පරිද්දෙන් පිළියෙළ
කරණලද්දාවූ මේ ද්‍රව්‍යයන් තැබ්බවූයේය. පුරවැසෝද
23 දනව්වැසෝද චෛත්‍යස්ථානයට එළඹුනාහ. තනතුරු
ලෙස කරණලද නියොගවසයෙන් මොනවට සැරසුනාවූ
24 නොයෙක් ඇමැතියන් විසින් රැකවරණ කරණලද්දාවූ මිහි
පතිතෙම මොනවට සැරසුනාවූ දෙවකන්‍යාවන්හා සමා
නාවූ නාටිකාවන් විසින් පිරිවරණලදුව යහපත්සේ සැරසී
25 පිළියෙළ කරණලද්දේ සතළිස් දහසක් මිනිසුන් විසින්
පිරිවරණලද්දේ නානාවිධ තූර්යයන් සොභණ ශබ්ද
යෙන් යුක්තවූයේ සක්දෙව් රජහු විලස් ඇත්තේ ස්ථානා
26 ස්ථාන දැන්මෙහි විචක්ෂණවූයේ මහජනයා සතුටු කෙරෙ
27 මින් මහාථූපය පිහිටන ස්ථානයට සවස්කාලයෙහි සම්ප්‍රාප්ත
වූයේය. ඒ මිහිපතිතෙම පොදිබඳනාලද අටතුරා දහසක්
28 වස්ත්‍රයන් මැද තබ්බවා ඉන් සතරපස නොයෙක් පිළී රැස්
කරවූයේය. මඟල්‍ය පිණිස මී ගිතෙල් උක්සකුරු ආදිය
29 තැබ්බවූයේය. නොයෙක් දෙසයෙන්ද භික්ෂූහු මෙහි පැමි
ණියාහුය. මේ දිවයින වැසි සඞ්ඝයා මෙහි පැමිනීම කිය
30 නුම කවරේද, රජගහනුවර සමීපයෙහි (වැඩවිසූ) ඉඳගුත්ත
නම් ස්ථවිරයන්වහන්සේ අසූදහසක් භික්ෂූන් (පිරිවරකොට)
31 ගෙණ වැඩිසේක. ධම්මසේන නම් මහාස්ථවිරයන්වහන්සේ
භික්ෂූන් දොළොස් දහසක් (පිරිවරකොට) ගෙණ ඉසිපත
32 නාරාමයෙන් චෛත්‍යස්ථානයට පැමිනිසේක. පියදස්සී නම්
මහාස්ථවිරයන්වහන්සේ සැට දහසක් භික්ෂූන් (පිරිවරකො
33 ට) ජේතවන විහාරයෙන් මෙහි පැමිනිසේක. බුද්ධරක්ඛිත

නම් ස්ථවිරයන්වහන්සේ අටලොස් දහසක් භික්ෂූන් (පිරිවර
කොට) ගෙණ විසාලාමහනුවර මහවනයෙන් මෙහි පැමිනි
34 සේක. මහාධම්මරක්ඛිත නම් ස්ථවිරයන්වහන්සේ තිස්දහ
සක් භික්ෂූන් (පිරිවරකොට) ගෙණ කොසඹෑ නුවරවූ ඝොසි
35 තාරාමයෙන් මෙහි පැමිනිසේක. මහාධම්මරක්ඛිත නම්
ස්ථවිරයන්වහන්සේ සතලිස් දහසක් භික්ෂූන් රැගෙණ
උදේනි නුවර දක්ඛිණගිරි විහාරයෙන් මෙහි පැමිනිසේක.
36 මිත්තිණ්ණ නම් ස්ථවිරයන්වහන්සේ භික්ෂූන් එක්ලක්ෂ සැට
දහසක් රැගෙණ පැළලුප්නුවර අසොකාරාමයෙන් (මෙහි
පැමිනිසේක.)
37 උත්තිණ්ණ නම් තෙරුන්වහන්සේ දෙලක්ෂ සැටදහසක්
භික්ෂූන් රැගෙණ කාශ්මීර මණ්ඩලයෙන් (මෙහි පැමිනි
38 සේක) මහාප්‍රාඥවූ මහාදේව නම් ස්ථවිරතෙම සාර්ලක්ෂ
සැටදහසක් භික්ෂූන් රැගෙණ පල්ලවභොගග නම් ජනපද
39 යෙන් (මෙහි පැමිනිසේක). ඒ මහාධම්මරක්ඛිත නම් ස්ථ
විරයන්වහන්සේ භික්ෂූන් තිස්දහසක් රැගෙණ යොනක
40 රට අලසන්ද නම් නුවරින් මෙහි පැමිනිසේක. උත්තර
නම් ස්ථවිරයන්වහන්සේ භික්ෂූන් සැටදහසක් රැගෙණ
වින්ධ්‍යවනයෙහිවූ වත්තනිය නම් සෙනස්නෙන් මෙහි පැමි
41 නිසේක. චිත්තගුත්ත නම් මහාස්ථවිරයන්වහන්සේ තිස්
දහසක් භික්ෂූන් රැගෙණ බෝමැඩ වෙහෙරින් මෙහි පැමි
42 නිසේක. චන්දගුත්ත නම් මහාස්ථවිරයන්වහන්සේ අසූදහ
සක් භික්ෂූන් රැගෙණ වනවාස ප්‍රදෙශයෙන් මෙහි වැඩි
43 සේක. සූරියගුත්ත නම් මහාස්ථවිරයන්වහන්සේ සයානූ
දහසක් භික්ෂූන් රැගෙණ කෛලාස විහාරයෙන් මෙහි
44 පැමිනිසේක. මෙහි පැමිනි ලක්දිව් වැසිවූ භික්ෂූන්ගේ
සඞ්ඛ්‍යා පරිච්ඡෙදයක් සර්වප්‍රකාරයෙන් පූර්ණචාර්‍ය්‍යයන්
45 විසින් නොකියන ලද්දේය. ඒ සමාගමෙහි රැස්වූ සියලු
භික්ෂූන් වහන්සේලා අතුරෙන් රහතුන්ම සයානූකෙළ
46 කැසි කියනලද්දාහුය. ඒ භික්ෂූහු සුදුසු පරිද්දෙන් මහා
චෛත්‍යස්ථානය පිරිවරා මධ්‍යයෙහි මහරජානන්ට අවකාශ
47 තබා සිටගත්හ. නරෙන්ද්‍රතෙම එහි පිවිස එසේ සිටියාවූ
භික්ෂු සඞ්ඝයා දැක ප්‍රසන්න චිත්තයෙන් යුක්තව වැඳ සතුටු
48 සිත්ඇතිවූයේ, සුවඳ මලින් පුදා තුන්වරක් ප්‍රදක්ෂිණකොට
මධ්‍යයෙහි මඞ්ගල්‍ය වස්තුසහිතවූ පුන්කලස පිහිටි ස්ථානයට
49 ප්‍රවිෂ්ටව රන්කණුවෙහි බහනලද රිදීයෙන් නිමවනලද්දාවූ
සුඹවූ සිසාරණ දඬගුඬ ප්‍රීති බලප්‍රකාශය ඇතොවා යහපත්
50 ජනී ඇත්තාවූ සැරසුනාවූ විශෙෂයෙන් මඟලවූ අමාත්‍ය

යෙකුලවා අලලවාගෙණ සත්වයන්ගේ සම්පත්තිය පරායණ
51 කොට ඇතෙත්, මහත්වූ චෛත්‍ය මණ්ලයක් කරවනනාට
කරණලද නිශ්චය ඇතෙත් පිරියම් කරණලද බිම සිසාර
52 වනනාට ආරම්භකළේය. නමින් සිඩාත්ථ නම්වූ මහත් ඍඩි
මත්වූ දීඝීදර්ශී මහාස්ථවිරයන්වහන්සේ එසේ කරනනාවූ
53 නරනිඳුහු වැලකූසේක. (ඒ කුමක් හෙයින්දයත්?) "ඉදින්
මේ නරෙන්ද්‍රතෙම මේසා මහත්වූ ථූපයක් කරනනාට ආරම්භ
කරනෙන්ද ථූපය නොනිමි කල්හිම මොහුට මරණය පැමි
54 නෙනෙන්ය. පිළිසකර කිරීම දුෂ්කරවූ මහත්වූ සෑයක්ද
වනෙන්ය" මෙසේ උන්වහන්සේ අනාගතය දක්නේ මහත්
55 බැවි වැලකූසේක. සඞ්ඝයාගේ අනුදැනීමෙන්ද ස්ථවිරයන්
වහන්සේ කෙරෙහි ගෞරවයෙන්ද ස්ථවිරයන්වහන්සේගේ
56 වචනය පිළිගෙණ මහත් චෛත්‍යයක් කරණු කැමැතෙත්ද
ඒ ස්ථවිරයන්වහන්සේගේ උපදෙශයෙන් නරෙන්ද්‍රතෙම
ගඩොල් පිහිටුවනු පිණිස මධ්‍යමවූ චෛත්‍යස්ථාන මණ්ඩ
57 ලයක් කෙළේය. නොපසුබට වීර්‍ය්‍යඇත්තාවූ නරෙන්ද්‍රතෙම
මණ්ඩලය මධ්‍යයෙහි රතින්ද රිදීයෙන්ද නිමවනලද
58 කුම්භයන් අට අට තැබ්බවූයේය. එතැනින් (හාත්පස) අට
තුරාදහසක් අභිනව කුම්භයන් පිහිටවූයේය, වස්ත්‍රයන්ද
එකසිය අට බැගින් තැබ්බවූයේය, අනෙක ප්‍රකාරයෙන්
59 සැරසුනාවූ සම්මත කරණලද ඇමැතියා ලවා යහපත්වූ
ගඩොල්කැට අටක් වෙන් වෙන් වසයෙන් තැබ්බවූයේය,
60 එයින් නානාප්‍රකාර මඞ්ගල ලක්‍ෂණ වසයෙන් සම්මත කර
ණලද එකක් ග්‍රහණයකරවා පූර්‍ව්‍වදිග්භාගයෙහි මනොඥවූ
61 සුවඳ කලලෙහි පළමුවෙනි මඟුල්ගඩොල වසයෙන් සකස්
කොට පිහිටවූයේය. දෑසමන් මලින් පිදූකල්හි එහි භූමික
62 ම්පා වූයේය, අවශෙෂවූ සතද අමාත්‍යයන් සත්දෙනෙකු
63 ලවා පිහිටවූයේය. මෙසේ යහපත්සේ සම්මතකරණලදවූ
64 ඇසළමස පූර පසළොස්වක් දින ගඩොල් පිහිටවූයේය, එහි
සතරදිග වැඩසිටියාවූ රහත් මහතෙරුන් පිළිවෙළින් වැඳ
65 පුදා අතිශයින් සතුටුවූ ඒ නරෙන්ද්‍රතෙම ඉසාන දෙසට
ගොස් පියදස්සී නම් රහත් මහතෙරුන්වැඳ උන්වහන්
66 සේ හමුයෙහි සිටියේය. ඒ ස්ථවිරයන්වහන්සේ මඟල
වර්‍ණනය කරමින් ඕහට ධර්‍මදෙසනා කළසේක. ස්ථවිර
67 යන්වහන්සේගේ දේසනාතොමෝ ඒ ජනයාහට සාර්‍ථක
විය. සතළිස් දහසක් ප්‍රාණීන්ට (මාර්‍ගඵල මුක්තාව) ධර්‍මාව
68 බොධය වූයේය, සතළිස්දහසකට සෝවාන්ඵලය සිදුවිය.
දහසක් සකෘදාගාමී වූහ, එපමණම අනාගාමී වූහ, එහි

ගිහිජනයන් දහසක්ම රහත්වූහ, අටලොස් දහසක් භික්ෂු
69 හුද තුදුස් දහසක් භික්ෂුණීහුද රහත් බැව්හි පිහිටි
යහ.

70 මෙසේ රත්නත්‍රයෙහි ප්‍රසන්න ප්‍රඥාඇති පරිත්‍යාගයෙහි
අධිමුක්ත සිත්ඇති සත්ත්ව සමූහයා කෙරේ හිතවූ (ජනයා
කාරණකොටගෙණ) උතුම්වූ ලොකාර්ත්‍ථසිඬිය වන්නේයයි
දැන (ජනතෙමේ) ශ්‍රඬාදි නොයෙක් ගුණයන්හා යෙදී
මෙහි ඇල්ම කරන්නේය.

මෙතෙකින් සුදිජනයා පහන් සංවෙග පිණිස කළ මහ
වස ථූපාරමහ නම්වූ එකුන්තිස්වන අදියර නිමි.

---

# 30 වෙනි පරිච්ඡේදය.

1 මහරජතෙම සියලු සඞ්ඝයා වැඳ “චෛත්‍ය කර්‍මාවසා
නය දක්වා මාගේ පිණ්ඩපාතය ගන්නාසේක්වා”යි කියා
2 නිමන්ත්‍රණය කෙළේය. සඞ්ඝතෙමේ ඒ පැවරීම නොයිවසූ
සේක, හෙතෙම පිළිවෙළින් සත්දවසක් දක්වා යාච්ඤා
3 කරන්නේ අඬියක් භික්ෂුසඞ්ඝයාගෙන් සත්දවසක් ඉවසීම
ලැබූයේය. හෙතෙම ඒ ලැබ සතුටුසිත් ඇතිවූයේම සෑ
4 තැන හාත්පස අටලොස් තැනෙක මණ්ඩපයන් කරවා එහි
සත්දවසක් සඞ්ඝයාට මහදන් පැවැත්තුයේය, ඉක්බිති
5 සඞ්ඝයා යැවූයේය, ඉක්බිති බෙර හසුරුවා වහාම උළුවඩු
6 වන් රැස්කරවූයේය, ඔව්හු පන්සියයක් පමණ වූහ. කෙ
සේ (ගඩොල්) කරන්නාහිදැයි විචාළ කල්හි එකෙක් “මම
මෙහෙකරුවන් සියයක් ලැබ මැටි ගැලක් ගෙන්වා එක
7 දවසින් ගඩොල් ඉදිකරමි”යි මහරජහට කීයේය, රජතෙම
ඒ වැලැක්විය, එයින් අඬිය අඬිය මැටිද මැටි දෑමුණක්ද
8 එක එකා කීහු, රජතෙමේ ඒ වඩුවන් සතරදෙනාම වැලැක්
වූයේය.

ඉක්බිතෙතන් පණ්ඩිත ව්‍යක්තවූ උළුවඩුවෙක්තෙම (කිය
9 නෙන්) වතෙහි කොටවා කුල්ලෙන් වැඩූකල්හි මම දඟ
ලෙහි අඹරවා මැටි අමුණක් (එකදවස ගෙවන්නෙමි)
10 මෙහි චෛත්‍යයෙහි තෘණාදීහුද නොවන්නාහුයයි නරනිඳු
හට කීයේය. මෙසේ කියනලදුවූ ශක්‍රයාහා සමාන පරා
11 ක්‍රම ඇත්තාවූ මහීපාලතෙම අනුදත්තේය. “තෝ කෙසේ

සටහන්ඇති චෛත්‍යයක් කරන්නෙහිදැ"යි නරේන්ද්‍රතෙම
12 විචාළේය, එකෙණෙහිම විශ්වකර්ම්ම දෙවපුත්‍රතෙම උළුව
ආවිස්වට්ටුයේය. වඩුතෙම රන්තලියක් ජලයෙන් පුරවා
13 අතින් දියගෙණ දියපිට ගැසුයේය. (එකල) පළිඟු ගුලි
යක් සමානවූ මහ දියබුබුලක් නැංගේය, "මෙබඳු සටහන්
ඇත්තක් කරන්නෙමැ"යි කීයේය. මහීපතිතෙම සතුටුව
14 උළුවට දහසක් අගනාවූ වස්ත්‍රයුග්මයක්ද එසේම ආභරණ
හා (දහසක් අගනා) වහන්සගලක්ද කහවණු දෙළොස්
15 දහසක්ද දෙවූයේය. රජතෙම "මිනිසුන් නොපෙළා කෙ
සේ ගඩොල් ගෙන්වම්දැ"යි රාත්‍රියෙහි සිතුයේය. දෙවියෝ
16 ඒ සිත දැන එක එක දවසට පොහොනා ගඩොල් එක එක
17 රැයට ගෙණවුත් චෛත්‍යයාගේ සතරදෙර තැබුවාහුය.
ඒ අසා සතුටුසිත් ඇත්තාවූ රජතෙම චෛත්‍යකර්ම්මය ආරම්භ
18 කෙළේය. මෙහි නොමිළයේ කර්ම්මයක් නොකටයුතු යයිද
දැන්වූයේය, එක එක දෙර සොළොස් ලක්ෂය බැගින් කහ
19 වණුද ඉතා බොහෝවූ වස්ත්‍රයන්ද තැබ්බවූයේය, නා නා
ප්‍රකාර ආභරණද පානවර්ග්ග සහිතවූ ඛාද්‍ය භොජ්‍යයන්ද,
සුවඳමල් උක්සකුරු ආදියද මුව සුවඳකරනනාවූ තඹුල්
20 කපුරු ආදිවූ භෛෂජ්‍ය පඤ්චකයද. "රිසිදු පරිද්දෙන් කර්ම්ම
න්නකොට ඒ දෙය රිසිසේ ගණිත්වා"යි කියා තැබ්බවූ
යේය, රජහුගේ ඒ කම්කරුවෝ එසේම බලා දුන්හ.
21 භික්ෂු කෙනෙක් සෑකම්හි සහාය බැව් පතන්නේ තමන්
22 විසින් කරණලද මැටිපිඩක් ගෙණ චෛත්‍යස්ථානයට
පැමිණ රජහුගේ කම්කරුවන් රවටා එය වඩුවාට දුන්නේය,
23 හෙතෙම් ගණිමින්ම දැනගත්තේය, ඒ භික්ෂූහුගේ ආකාරය
දැන ඒ වඩුවාට කුහුල් උපන. පිළිවෙළින් රජතෙම ඒ අසා
24 ආයේ වඩුවා විචාළේය. "දෙවයන්වහන්ස භික්ෂූහු එක් අත
කින් මල්ගෙණ එක් අතකින් මට මැටිපිඩු දෙනනාහුය, මම
25 වනාහි මේ ආගන්තුක භික්ෂුය මේ නෙවාසිකයයි නොම
දනිමැ"යි කී බස්අසා මැටිදුන් භික්ෂූන් දක්වන පිණිස
එක් බලතෙකු දුන්නේය. හෙතෙම බලනාට දක්වූයේය,
26 ඒ බලත්තෙම නරේන්ද්‍රයාට සැලකෙළේය, ඒ නරේන්ද්‍රතෙම
27 බලනාලවා මහබෝ මළුවෙහි දැසමන් කැකුළු කල තුණක්
තබ්බවා භික්ෂුහට දෙවූයේය.
28 නොදැන ඒ පූදසිටි භික්ෂුහට බලත්තෙම (නයගෙවීම
බව) දැන්වූයේය, ඒ භික්ෂුතෙම එකල එය දැනගත්තේය.
29 කේළිවාත ජනපදයෙහි පියගල් වැසිවූ ඒ උළුවඩුවාට නෑ
යෙක්වූ ස්ථවිරකෙනෙක් චෛත්‍ය කර්ම්මයෙහි සහායක්‍ෂය

30 පතන්නේ මෙහි පැමිනියේ එහි ගඩොල් හැදිනගෙණ
31 ඒසා ගඩොලක් කොට මෙහෙකරුවන් රවටා එය වඩු
වාට දුන්නේය, හෙතෙම එය එහි යෙදූයේය, කොලහලද
32 ඒය, රජතෙම ඒ අසා ඒ ගඩොල දනහැකිදැයි විචාළේය,
වඩුතෙමේ දනිමින්ම නොදනිමැයි රජහට කීයේය, තෝ
33 ඒ තෙරුන් දන්නෙහිදැයි කියනලද්දාවූ හෙතෙම එසේයයි
කීයේය, ඒ දන්වන පිණිස මිහිපතිතෙම ඕහට බලතෙක්
පැමිනවූයේය.

34 බලත්තෙමේ එසින් තෙරුන් හැඳින රජහුගේ අනුශා
යෙන් එලඹියේ කණ්හාල පිරිවෙන්හිදී තෙරුන් දැක එක්ව
35 කථාකොට තෙරුන් වඩනා දවසද වැඩිතැනද දැන "නුඹ
වහන්සේලා සමග සියගමට යමැ"යි කියා (පෙරලා අවුත්)
36 රජහට සියලල දැන්වූයේය. රජතෙමේ දහසක් අගනා පිළි
සගලක්ද මාහැඟි රත්තකම්බලයක්ද බොහෝ ශ්‍රමණ පරි
37 ෂ්කාරද සකුරුද සුවඳතෙල් නැළියක්ද ඒ බලත්හට දෙවිය.
(ඒසියලල දෙවා) ඔහුට අනුශාසනාකෙළේය. ඒතෙමේ තෙ
38 රුන්හාගොස් පියගලු වෙහෙර පෙණෙන තැන්හිදී තෙරහු
39 දියසම්පවූ සිහිල් සෙවනෙක හිඳුවා, සකුරු හා පැන්පොවා
40 තෙලින් දෙපාමැඩ වහන්යොදා පිරිකර එලවිය. "මේ පිරි
කර මා කුලුපග තෙරකෙනෙකුට හැරගන්නා ලද්දැහ. මේ
වස්ත්‍රයුග්මය මාවිසින් පුත්‍රයාහට ගන්නාලද්දේය. ඒ සියලල
41 නුඹවහන්සේට දෙමි" මෙසේ කියා ඒ පිරිකරදී පිරිකර
රැගෙණ වඩනා තෙරුන්ට වැඳ රජහු බසින් රජහුගේ
පතිවිඩය ඒතෙමේ කීයේය.

42 මහසෑය කරණලබන කල්හි බැලමෙහෙකරුවූ බොහෝ
43 ගණන් මනුෂ්‍යයෝ ප්‍රසන්නාවූවෝ සුගතියට ගියෝය. බුදුන්
කෙරෙහි චිත්තප්‍රසාද මාත්‍රයෙන් උතුම්ගති ලබන්නේයයි
44 දැන නුවනැත්තේ චෛත්‍යපූජාව කරනෙන්සි. මෙහිම බැල
මෙහෙකොට ස්ත්‍රීයෝ දෙදෙනෙක් තව්තිසා දෙව්ලොව
45 උපනෙනා් මහසෑය නිමිකල දෙදෙන පූර්වකර්ම ආවර්ජනා
46 කොට ගඳමල් ගෙණ සෑය පුදන්නට ආවාහු ගඳින් මලින්
සෑයපුදා අභිවාදනය කළෝය. ඒ වේලායෙහි භාතිවඩ්ක
විහාරවාසී මහාසීව ස්ථවිරතෙම රාත්‍රිභාගයෙහි මහසෑය
47 වඳනෙමැයි ආසෙක් එවුන්දෙදෙනා දැක මහාසපත්ණිණි
48 රුක ඇසිරැකොට සිටියේ, තමා නොදක්වා අද්භූත
සම්පත් දකිමින් සිටගෙණ ඔවුන්ගේ වන්දනා අවසාන
49 යෙහි ඔවුන් විචාරමින් "සියලු ලක්දිව තොපගේ ශරීර
ලෝකයෙන් බෙබෙයි මෙහි තොපි කවර පුණ්‍යකර්මයක්

50 කොට මෙසින් දෙව්ලොව ගියාහුද" යි විචාළහේක. දෙව්
දුහු මහසෑයෙහි කළකම් උත්වගත්සේට කිවූය. මෙසේ
බුදුන් කෙරෙහිම ප්‍රසාදයතෙම මහත් ඵලයි.

51 මහසෑයෙහි මල්අසුන් තුන ගඩොලින් ඉදිකරණලද්දේ
නිමවනලදී, සෑඩිමත්හු පෑරුවිය සමකොට පොළෝ ගිලල
52 වූහ. නවවරෙක්හි ඉදිකරණලද සියල්ල මෙසේම ඒ සෑඩි
මත්හු පොළෝ ගැලලවූහ. ඉක්බිති මහරජතෙමේ භික්ෂු
53 සඞ්ඝ සන්නිපාතය කරවී. ඒ සන්නිපාතයෙහි අසූදහසක්
54 භික්ෂූන්කරා රජතෙමේ එළඹ පූජා වැඳ ගඩොල් ගැල්මෙහි
හේතුව විචාළේය සඞ්ඝතෙම විසඳූයේය. "මහරජතෙනි
55 සෑය නොගිලෙන පිණිස සෑඩිමත් හස්තීන් විසින් මේකර
ණලදී දැන් නොකරණුලැබෙයි. අන්‍යථා භාවයක් නො
56 කොට ඒ මහසෑය නිමවව. ඒ අසා පහන් සිත්ඇති රජ
තෙමේ සෑකම් කරවීය. මල්අසුන් දසයෙහි ගඩොල් දස
57 කෙළක්හ. භික්ෂු සඞ්ඝතෙමේ උත්තර සාමණේරය සුමණ
සාමණේරය යන දෙදෙනා "චෛත්‍යයාගේ ධාතුගර්භපිණිස
58 මේවන් පහන් ගෙණඑව්ය" යි මෙහෙයූහ. ඒ දෙදෙනා
උතුරුකුරු දිවයින් ගොස් අසූරියන් දිගපුළුල් හිරුමඬුලුසේ
59 බබලන අටතුල් බොල්ගැටපූප් බඳු යහපත් මේවන්පහන්
සයක් ක්ෂණයකින් ඒ උතුරුකුරු දිවයිනෙන් ගෙණ
60 අවූය. මල්යහන් මතුයෙහි මැද ඉන් එක් ගලක් අතුට
61 සතර දිග්හි සතරක් පෙට්ටියක්සේ වසා, එක් ගලක්
පියන් පිණිස නැගෙණහිර දිසාභාගයෙන් අදෘශ්‍යකොට
මහඝීඇති ඔව්හු තැබූහු.

62 රජතෙමේ ඒ දාගැබ මැද සර්වාකාරයෙන් මනොරම්‍යවූ
63 රුවන් මුවා බෝරුකක් කරවීය. ඒ බෝරුක අටළොස්
රියන් කඳය, එහි අතු පසෙක, පබළුමුවා මුල, ඉඳුනිල්බිම
64 පිහිටියේය, ඉතා ශුද්ධ රිදීකඳය, මිණිමුවාපතින් සෙබියේය,
රුවන්මුවා පාණ්ඩුපත්‍ර ඵල ඇතෙත්ය, පබළුමුවා අකුරු දළු
65 ඇත්තේය. ඒ බෝකඳ අෂ්ටමඞ්ගලිකාය පුෂ්පලතාය
66 සිවුපා පන්තිය හොබනා හංස පන්තිය උඩ හැසිරෙණ
වියන් කෙළ මුතුහා කිංකිණිදැල්ය රන්කලස මාලාය ඒ ඒ
67 තන්හි මල්දම්හ. වියන සිවුකොන්හි මුතුමය කලාප
ඇත්තේය එල්වනලද ඉන් එකි එකී කලාපයක් නව
68 ලක්‍ෂයක් අගණේවී. හිර සඳ තාරකා රූපයන්ද නොයෙක්
පියුම්ද රුවනින් නිමනලදෑවූ වියනෙහි අමුනනලදැහ.
69 අනේකප්‍රකාර මහඟුවණ්ණි ඇති අටතුරා දහසක් වස්ත්‍ර
70 යන්ද වියන්හි එල්වනලදැහුය. බොධිය පිරිකෙව්කොට

නක්රුවන් පිළිකඩය, මහ ඇඹුළුපලසා මුතුයෙන් ඒ පිළි
71 කඩ අතුරෙහි අතුරණ ලද්දේය. නානා රත්නමය පුෂ්ප
යෙන්ද සිවුඳ ගඳදියෙන්ද පිරුණාවූ පූර්ණ ඝටපඞ්ක්තීහු
72 බෝමුල තබනලද්දාහ. බොධිය නැගෙණහිරින් පණවන
ලද අනර්ඝ පර්‍ය්‍යඞ්කයෙහිත් භාස්වරවූ රත්මුවා බුදුපිළිමයක්
73 හිඳුවිය ඒ පිළිරුව ශරීර අවයවයෝ සුදුසු පරිද්දෙන්
74 නානාවර්ණ රුවනින් කරණලද්දාහු ඉතා හෙබූහ. රිදී ශ්වෙ
තච්ඡත්‍රධර මහාබ්‍රහ්මතෙමේ එහි තබනලද්දේය. අභිෂෙක
75 දායක ශක්‍රද ජයතුරාසක්හින් යුක්තකොට තබනු ලැබීය. වීණා
ගත් අත්ඇති පඤ්චසිඛය, නාටිකාවන් සහිත කාළනාගරාජය,
76 ඇතුන් පිරිවර සහිත දහසක් අත්ඇති මාරද එහි තබන
77 ලදහ. නැගෙණහිර පර්‍ය්‍යඞ්කය සෙයින් සෙසු තුන්දිසාහිද
කෙළක් කෙළක් වසනු අගනා පර්‍ය්‍යඞ්කයෝ අතුරණ ලද්දාහ.
78 බොධියට ඉසලා නන්රුවනින් සරසනලද කෙළක් වසනු
79 අගනා මහසයනය පණවනලද්දේවි. සත්සතියවන තන්හි
ඒ ඒ තැන සුදුසු පරිද්දෙන් ප්‍රධාන ක්‍රියාද, බ්‍රහ්මාරාධනාවද
80 කරවීය. දම්සක් පැවැතුම, යසස්විරයන්ගේ පැවිද්ද, භද්‍ර
81 වර්ගීය කුමරුවන් පැවිද්ද, ජටිලදමනය, බිම්බිසාර රජහුගේ
එළඹීම, රාජගෘහ ප්‍රවෙශනය, වේළුවනය පිළිගැන්ම, එසේම
82 අසූමහ සව්වන්ය, කිඹුල්වත් ගමන, එසේම රුවන්සක්මන,
රාහුලකුමරහු නන්දකුමරහු පැවිද්ද, දෙව්රම්වෙහෙර පිළි
83 ගැන්ම, ගඬඹරුක්මුල පෙළහර, තව්තිසා දෙව්ලෙව්හි
දේසනාව, දේවෝරෝහණ පෙළහර, ස්ථවිරප්‍රශ්න සමා
84 ගම, මහාසමය සූත්‍රාන්තය, රාහුලොවාද සූත්‍රාන්තය, මහා
85 මඞ්ගල සූත්‍රාන්තය, ධනපාල සමාගමය, ආලවක දමනය,
අඟුල්මල් දමනය, අපලාල දමනය, පාරායණ සමාගම,
86 එසේම ආයුස්සංස්කාරය හැරීම, සූකරමාංස ප්‍රතිග්‍රහණය,
ශෘඞ්ගීස්වර්ණවර්ණ වස්ත්‍රයුග්මග්‍රහණය, පහන්දිය වැල
87 දිම, පිරිනිවන්පෑම, දෙවිමිනිසුන් විලාපය, කසුප් තෙරුන්
විසින් පා වැඳීම, දරසෑයෙහි දැම, ගිනි නිවීම, එහි සත්කා
88 රය, ද්‍රොණ බමුණා විසින් ධාතුබෙදීම, බොහෝ සෙයින්
ජාතකයන්ය යන මෙතෙක්දෑ මනාජාති ඇති රජතෙමේ
කරවීය.

89 වෙස්සන්තර ජාතකය වනාහි විස්තරයෙන්ද, එසේම
තුසිතපුරය පටන් බෝමැඩතෙක් විස්තරයෙන්ද කරවීය.
90 සතරදිග ඒ සතරවරම් මහරජහු සිටියාහුය. තෙතිසක් දෙව්
91 පිත්හුය එසේම දෙතිසක් කුමරියෝය අටවිසි යක්සෙනෙවි
යෝය, ඉන් මතෙහි ඇඳිලිබැඳගත් දේවතාවෝය, ඉන්

92 මතුයෙහි මල්සහිත පූර්ණඝටය, නටන දේවතාවෝය
තූර්ය්‍යවාදනය කරණ දේවතාවෝය කැඩපත් ඔසවාගත්
93 දෙවතාවෝය, එසේම මල්අතුගත් දේවතාවෝය, පියුම්
ගත් දේවතාවෝය, නොයෙක් පරිද්දෙන් අනිකුත් දේවතා
වෝය, රන්ඇගෑපෙළ, දම්සක්පෙළ, කඩුගත් දේවතා
94 පන්තිය, එසේම පාත්‍රගත් දේවතාපන්තිය. උන්ගේ හිස
ගන්ධතෛලයෙන් පූරවණලද්දාවූ පස්රියන් දුහුල්පට පහන්
95 වැටිපෙළ හා මකල් අවුලන ලද්දාහ. පිළිමිණි ඇගෑකොණ
96 එකෙකී මහගු මිණිරුවන, රුවන්ය මිණිය මුතුය විදුරුය
යන මෙයින් එකි එකී ගොඩක් බැගින් ප්‍රභාස්වර සතර
97 ගොඩක් සතරකොණ කරණලද්දේය. මේවන් පහන් බිතු
යෙහිම දිලියෙනනාවූ විදුලිහු අලවනලද්දාහු ධාතුගර්භ
98 යෙහි හෙබියාහ. මේ මනරම් දාගැබ්හි සියලු රූම සනාවූ
99 තැළු රනින් මිහිපල්තෙමේ කරවිය. ෂට්අභිඥා හා මහා
ප්‍රඥාඇති ඉන්ද්‍රගුප්ත මහාස්ථවිර කර්මාධිෂ්ඨායකසේක් මේ
සියල්ල මෙහි විධානකළසේක. මේ සියල්ල රාජර්ධියෙන්
දේවතර්ධියෙන් ආර්‍ය්‍යර්ධියෙන්ද නොගැටී පිහිටනලද්දේය.

100 තමහට සුවපතනනාහු විසින්, අවශ්‍යයෙන් පිදියයුතු
ලොකොත්තමවූ (අවිද්‍යාද්) තමස්රහිත ජීවමාන බුදුහුද
උන්වහන්සේ (දැවූතැන) විශීර්ණ ධාතුද, පූද (ලබනා) පින්
සමයි; සැදැහැගුණයෙන් සැරහුනු නුවනැතෙත් එය එසේ
දැන මේ බුදුන් ධාතුද දිවමනු බුදුහු සෙයින් යෙහෙන් පූජ
කරනෙන්ය.

මෙතෙකින් හුදීජනයා පහන්සංවෙග පිණිස කළ මහ
වංස ධාතුගබ්භරචන නම් තිස්වන අදියර නිමි.

---

# 31 වෙනි පරිච්ඡේදය.

1 නරේන්ද්‍රතෙම ධාතුගර්භයෙහි කම්නිමවා සඞ්ඝයා රැස්
2 කරවා "ස්වාමීනි ධාතුගර්භයෙහි කටයුතු කර්මයෝ මාවිසින්
නිමවන ලද්දාහුය, සෙටදින ධාතු නිධාන කරනෙමැ" යි
3 මේ වචනය සැලකෙළේය. මහරජතෙම මේ වචනය කියා
නුවරට වනෙන්ය. ඉක්බිතෙන් භික්ෂුසඞ්ඝතෙම ධාතු
4 ගෙණඑම කරණුහැකිවූ යතිනමක් සිතා, පූදපිරිවෙන්වැසි

ෂට්අභිඥා ප්‍රාප්තවූ සොණුත්තරනම් යතිහු ධාතු ගෙණඑම්
කර්මයෙහි යෙදුසේක.

5 ලෝකස්වාමිවූ සර්වඥයන්වහන්සේ ලෝවැඩ පිණිස
(ලොව) සැරිසරා වඩනාකල්හි, ගඞ්ගානදීතීරවාසී
6 නන්දුත්තර නම් මානවකයෙක් තෙම සඞ්ඝයා සහිතවූ
සම්බුදුන් පවරා වැලඳවූයේය, ශාස්තෲන්වහන්සේ පයාග
7 පතිඨාන නම් තොටදී සඞ්ඝයා සහිතව නැව්නැගිසේක.
එහි (වැඩහුන්) ෂඩභිඥාඇති මහත් සෘද්ධිමත්වූ භද්‍රජිත්
නම් ස්ථවිරතෙම (ගඟමැද) දිය පැකිලෙන තැනක් දැක
8 භික්ෂූන්ට මේ වචනය වදාළේය, “මහාපනාද නම් (රජ) වූ
මාවිසින් වසනලද පස්විසි යොදුන් ප්‍රාසාදයතෙම මෙහි
9 වැටුනේය, ගඞ්ගාවේ ජලයතෙම ඒ පහයට පැමින මෙහි
පැකිලෙයි.” භික්ෂූහු එය නොඅදහමින් ශාස්තෲන් වහන්
10 සේට එය සැලකළාහුය, “භික්ෂූන්ගේ ශඞ්කාව දුරුකර
ව” යි සර්වඥයන්වහන්සේ වදාළසේක, ඉක්බිතෙන් ඒ
11 ස්ථවිරයන්වහන්සේ බ්‍රහ්මලොවද වසයෙහි පවත්වනු සමර්ථ
භාවය හඟවනු පිණිස සෘද්ධියෙන් අහසටනැගී සම සත්
12 තලක් තන්හි වැඩසිටිසේක් ඇඟුකරණලද හස්තයෙහි බඹ
ලොව ස්ථූපිණිසැය තබාගෙණ මෙහි ගෙණවුත් ජනයාට
දක්වා එය නැවත එහි තිබුනතන්හි තබා සෘද්ධියෙන් ගඞ්ගා
13 වට පැමිනි උන්වහන්සේ පය මාපටඇඟිල්ලෙන් ප්‍රාසාද
කොත්කැරැල්ල අල්වාගෙණ ඔසවා ජනයාට දක්වා එය
එහිම බහාලූසේක.

14 නන්දුත්තර නම් මානවකතෙම ඒ ප්‍රාතිහාර්ය්‍යය දැක, “මම
අනුන් අයත්වූ ධාතු ගෙණඑනනට පොහොසත්වෙම්” යි
15 ප්‍රාර්ථනා කෙළේය, එහෙයින් සඞ්ඝතෙමේ මේ සොණුත්තර
නම් භික්ෂූහු සොළොස්වස් නමුත් ඒ කර්මයෙහි යෙදූ
16 සේක. ඒ සොණුත්තර යතිතෙම “කොයින් ධාතු ගෙණ
එම්දැ” යි සඞ්ඝයා පිළිවිසියේය, සඞ්ඝතෙම ඒ ස්ථවිරයන්ට
17 ඒ ධාතු මෙසේ වදාළසේක. “පරිනිර්වාණ මඤ්චකයෙහි
වැදහොත්තාවූ ලොකස්වාමිතෙම ධාතුන් කරණකොට
18 ගෙණද ලෝවැඩ කරනනට ශක්‍රදෙවේන්ද්‍රයාට (මෙසේ)
වදාළසේක.” “දෙවේන්ද්‍රය මාගේ ශරීරධාතු ද්‍රොණ අට
19 අතුරෙන් එක් ද්‍රොණයක් රාමගම කොලිය රජුන් විසින්ද
සත්කාර කරණලද්දේ එයින් නාලොවට ගෙණයන ලද්දේ
20 නාගින් විසින් පුදනලද්දේ එයින් ලක්දිව මහාථූපයෙහි
නිධානය පිණිස වන්නේය, දීර්ඝදර්ශීවූ මහාකාශ්‍යප මහා
ස්ථවිරතෙමේද, ධර්මාශෝක නරේන්ද්‍රයන් විසින් ධාතු පතුරු

21 වන කාරණයෙන් රජගහනුවර සමීපයෙහි අජාසත් රජ්ජු
ලවා මහා ධාතුනිධානය කරවනසේක් ධාතූන් සම්බන්ධිවූ
22 ද්‍රෝණ සතක් ගෙණවුත් යහපත්සේ රැස්කොට කරවූසේක,
සර්වඥයන්වහන්සේගේ සිත දන්නාසේක් රාමගම තුබූ
23 ද්‍රෝණය නොගත්සේක. ධර්මාශෝක මහීපාලතෙමේද ඒ
මහා ධාතුනිධානය දැක අටවෙනිවූ ද්‍රෝණය ගෙන්වන්නට
24 මතියක් කෙළේය. එහි රහත් භික්ෂූහු සර්වඥයන්වහන්සේ
විසින් එය මහාථූපයෙහි නිධානය පිණිස නියමකරණ ලද්
25 දේය"යි ධර්මාශෝක නරේන්ද්‍රයන් වැළැක්වූසේක. රාම
ගම්හිවූ ථූපය වනාහි ගංඉවුරෙහි කරණලද්දේය, එහෙයින්
ගඟායෙහි මහාජල ප්‍රවාහයෙන් බිඳුනේය, ඒ ධාතුකරඬුව
26 වනාහි සමුද්‍රයට ප්‍රවිෂ්ටව එහි ජලය දෙබෑව බුත්කල්හි
නානාවිධ රත්නයන් මස්තකයෙහි රශ්මියෙන් ගැවසී සිට
27 ගත. නාගයෝ ඒ කරඬුව දැක මඤ්ජේරික නම් නාගභවන
28 යට ගොස් කාළ නම් නාරජහට දැන්වූහ. ඒ නාගරාජතෙම
දසකෙළ දහසක් නාගයන්හා සමග එහි ගොස් ඒ ධාතූන්
29 විශෙෂයෙන් පුදනොත් ස්වකීය භවනයට පමුනුවා, සර්ව
රත්නමයවූ ථූපයක්ද එසේම ඒ මතෙහි ගෙයක්ද නිර්මිත
කොට ආදර සහිතවූයේ නාගයන් සමග සැමකල්හි පූදයි.
30 එහි ආරක්ෂාව මහත ගොස් ධාතූන් මෙහි ගෙණඑව සෙට
දින මහීපාලතෙම ධාතුනිධානය කරනොන්ය" ඒ යතිතෙම
31 වනාහි මෙසේ වදාරණලදුවූ සඞ්ඝයාගේවචනය අසා මැනා
වැයි කියා යාහුතු කාලය බලමින් ස්වකීයවූ පිරිවෙණට
32 පැමිනිසේක. මිහිපතිතෙම "සෙට ධාතුනිධානය වනොන්
ය"කියා නුවර බෙර හැසිරවූයේය, සියලු කටයුතු විධාන
33 කොට ඒ මුළුනුවරද මෙහි එනනාවූ මාර්ගයද, සකස්කොට
සැරසවූයේය, නුවර වැසසන්ද අලඞ්කෘත කරවූයේය. සක්
34 දෙව්රජතෙමේද විස්කම් දෙව්පුත් කැඳවා මුළු ලක්දිව
නොයෙක් පරිද්දෙන් සැරසවූයේය, නරේශ්වරතෙම පූර
35 යාගේ සතරදෙර මහජනයාගේ උපභොගය පිණිස අනේ
කප්‍රකාරයෙන් බත් හා වත් තැබ්බවූයේය.

36 රාජකෘත්‍යයන්හි විචක්ෂණවූ නරේන්ද්‍රතෙම පසළොස්වක්
පොහෝදින සවස්වේලෙහි යහපත් සිත්ඇතොත් සර්වාභර
ණයෙන් සැරසුනේ, සියලු නාටිකාවන් විසින්ද ආයුධ සහි
37 තවූ යොධයන් විසින්ද, මහත්වූ සේනාසමූහයා විසින්ද,
38 ඇත් අශ් රථ සේනාවන් විසින්ද. නානාප්‍රකාරවූ ආභරණ
යෙන්ද සියලු දෙසින් පිරිවරණලද්දේ යහපත්වූ ධවල
39 සෛන්ධවයන් සතරදෙනෙකු යොදනලද යහපත්වූ රථයට

නැගී, සරසනලදුවූ යහපත් කඬලෑතු පෙරටුකොට රන්
40 කරඬුවක්ගනෝ ඡේසතයට සිටියේය. අටතුරා දහසක්
පුරුෂයෝද, යහපත් පුන්කලස් හා ආභරණ ඇත්තාවූ යහ
41 පත් ස්ත්‍රීහුද ඒ රථය පිරිවැරූහ. ඒ ඒ පමණවූ නානාවිධවූ
මල්සුඹුගුද එසේම දඬුවැට පහන්ද දරාගෙණ ස්ත්‍රීහු පිරිවැ
42 රූහ. මොනවට සරසනලදුවූ අටතුරා දහසක් ළදරුවෝ
43 නානාවර්ණවූ යහපත් ධ්වජයන් ගෙණ පිරිවැරූහ. ඒ ඒ
තන්හිවූ නානාවිධ තූය්‍ය්‍යශබ්දයෙන් හා අනෙකවිධවූ හස්ත්‍ය
ශ්ව රථ ශබ්දයෙන්ද පොළෝතල කිඳිතුලබනසේවූ කල්හි,
44 සොභාවෙන් යුක්තව මහමෙවුනා උයනට යනුවාවූ ඒ මහා
යසස්ඇති නරෙන්ද්‍රතෙම නඳුන්වන වදනා සක්දෙව්රජහු
45 සෙයින් බැබළීය. පිරිවෙණ වැඩහුන් සොණුත්තර යති
තෙම රජහුගේ නිෂ්ක්‍රමණාරම්භයෙහි නගරයෙහි මහත්වූ
46 තූය්‍ය්‍යශබ්දය අසා, පොළොව කිමිඳ වහා නාගභවනයට වැඩ
එහි නාරජහු ඉදිරියෙහි පහළවූසේක.

47 නාරජතෙම හුනස්නෙන් නැගී වැඳ උන්වහන්සේ පළ
48 ගෙහි හිඳුවා සත්කාරකොට ආවාවූ දෙශය පිළිවිසියේය.
එය වදාළකල නැවතත් තෙරුන්වහන්සේ වැඩිය කරුණ
49 විචාළේය, ඒ ස්ථවිරතෙම සියලුම කරුණු කියා සඞසයාගේ
හස්න වදාළේය. "සර්වඥයන්වහන්සේ විසින් මහා ථූප
යෙහි නිධානකරණු පිණිස නියමකර වදාරණ ලදුවූ ධාතු
50 හු මෙහි තොපගේ හස්තප්‍රාපතවූහ, ඒ ධාතූන් තෝ මට
දෙව" ඒ අසා අතිසයින්ම නොසතුටු සිත්ඇත්තාවූ නාග
රජතෙමේ "මේ ශ්‍රමණ තෙම බලාත්කාරයෙන් ගන්නටද
51 සමර්ථය එහෙයින් ධාතුහු අන්තැනෙක පැමින වියයුතු
ය" යි සිතා එහි සිටි බෑනනුවන්ට ආකාරයෙන් දැන්වූයේය,
52 නම්න් වාසුලදත්ත නම් හෙතෙම ඔහුගේ ඉඟි දැන ඒ
චෛත්‍ය මන්දිරයට ගොස් ඒ කරඬුව ගිල මේරුපර්වතපාද
53 යට ගොස් කුණ්ඩලාවර්ත්තව ශයනය කෙළේය. තුන්සියක්
යොදුන් දිඝීවූ ශරීරය ඇතිවිය, දරණය යොදුනක් අවට
54 ඇතෙන්ය, නොයෙක් දහස්ගණන් පෙණද මවනලදූහ.
ඒ මහත් සෘද්ධිමත් තෙම ශයනයකොට දුමනෙන්ය, ගින්
55 නෙන් ප්‍රජ්වලිතවනෙන්ය, නොයෙක් දහස්ගණන් තමන්
සමානවූ නයින් මවා හාත්පස පිරිවරකොට ශයනය කරවූ
56 යේය, එකල්හි බොහෝවූ දෙවියෝද නාගයෝද "නාගයන්
57 දෙදෙනාගේ යුඩය අපි බලම්හ" යි එහි රැස්වූහ. මයිල් (නා
රජ) තෙම බෑනනුවන් විසින් ඒ ධාතුහු ගෙණයන ලදූහු
යයි සිතා "මාලඟ ධාතු නැතැ" යි ඒ ස්ථවිරයන්හට කීයේය.

58 ස්ථවිරයන්වහන්සේ ඒ ධාතූන්ගේ ගමනය මුලපටන්
59 දැන ‘,ධාතු දෙව” සි ඒ නාරජහට කීසේක. ඒ නාරජතෙම
අන්පරිද්දකින් හගවත පිණිස ඒ තෙරුන්ගෙණ චෛත්‍ය
60 මන්දිරයට ගොස් උන්වහන්සේට එය වර්ණනා කෙළේය.
නොයෙක් රත්නයෙන් නොයෙක් පරිද්දෙන් සකස්කරණ
ලද්දාවූ මොනවට නිර්මිතකරණලද චෛත්‍යයද සෑගෙයද
ශ්‍රමණය බලව “මුළු ලක්දිව සියලුම රත්නයෝත් (මේ)
61 හිනිමුල සඳකඩ පහනටත් නොඅගණන්හුය අන්‍යවූ වස්තූන්
කෙරෙහි කවර වර්ණනාවෙක්ද? ශ්‍රමණය තුඹවහන්සේලා
විසින් මහාසත්කාර පවත්නාතෙනින් ස්වල්ප සත්කාර පවත්
62 නාතැනකට මේ ධාතූන් ගෙණයෑමනම් අයුත්තෙක.” “නා
63 ගය නොපවද සත්‍යාවබෝධය නැත්තෝය ධාතූන් සත්‍යාව
64 බෝධය ඇත්තාවූ තැනකට ගෙණයායුතුය. තථාගතයෝ
තුමූ සසරදුක්මිදීමපිණිසම උපදිති සර්වඥයන්වහන්සේගේ
65 මේ අභිප්‍රායෙනි ඒ කරණකොටගෙණ ධාතූන් ගෙණයම්හ.
ඒ රජතෙම වනාහි ධාතු නිධානය අදම කරන්නේය, එහෙ
සින් ප්‍රපඤ්චනොකොට වහාම මට ධාතූන් දෙවසි” කීසේක.
66 “වහන්ස ඉදින් තුඹවහන්සේ ධාතූන් දක්නෙහිනම් ගෙණ
යව” සි නාගතෙම කීයේය.

67 ස්ථවිරතෙම ඒ වචනය ඔහුලවා තුන්වරක් කියවාගෙණ
68 එහි වැඩසිටියේම සියුම් අතක් මවා එකෙණෙහිම නාරජහු
බෑනනුවන් මුඛයෙහි අනාබහා, දාකරඬුව ගෙණ “නාගය
69 සිටුව” සි කියා පොළොව නිමිදගෙණ පිරිවෙණෙහි නැගිසිටි
සේක. නාගරාජතෙම “අපවිසින් රවටනලද භික්ෂුතෙම
ගියේය” සි සිතා ධාතූන් ගෙණෙන පිණිස බෑනනුවන්ට
70 හසුන් යැවීය. ඉක්බිති බෑනතෙමේ කුසෙහි කරඬුව නො
71 දැක හඬමින් අවුත් මාමාට දැන්වූයේය, එකල ඒ නාරජතෙ
මේද “අපි රවටනලද්දම්හ” සි සිතා හැඬූයේය, පෙළුනාවූ
72 සියලුම නාගයෝ හැඬූහ. රැස්වූ දෙවියෝ භික්ෂුශ්‍රෙෂ්ඨයන්
ගේ ජයෙහි සතුටුවූවෝ ඒ ධාතූන් පුදනෝ උන්වහන්සේ
73 සමග ආවෝය. නාගයෝ හඬමින් අවුත් ධාතු ගෙණයෑමෙන්
74 දුක්පත්වූවෝ සඞ්ඝයා සමීපයෙහි බොහෝසෙයින් හැඬූහ.
සඞ්ඝතෙම අනුකම්පාවෙන් ඔවුන්ට ධාතු ස්වල්පමාත්‍රයක්
75 දෙවූයේය, එයින් සතුටුවූ ඔව්හු ගොස් පූජාභාණ්ඩයන් ගෙණ
වෝය. සක්දෙව්රජතෙම රුවන්පළඟක් හා රන්කරඬුවක්
76 ගෙණ දෙවියන් හාසමග ඒ ස්ථානයට ආයේය. තෙරුන්
වහන්සේ නැගුන තන්හි විස්කම් දෙව්පිත් ලවා කර
77 වන ලද්දාවූ යහපත්වූ රත්නමණ්ඩපයෙහි පළඟ පිහිටුවා ඒ

තෙරුන්වහන්සේ අතින් ධාතුකරඬුව ගෙණ (තමන්) කරඬු
78 වෙහි තබා උතුම් පළගෙහි තැබූයේය. බ්‍රහ්මතෙම ඡත්‍රය
දැරූයේය, සන්තුසිත දෙව්තෙම වල්විදුනාව දැරූයේය,
සුයාම දෙව්තෙමේ මිණිතල්වැට දැරූයේය, ශක්‍රතෙම දිය
79 සහිතවූ ශඞ්ඛය දැරූයේය. සතරවරම් දෙව්මහරජදරුවෝ
කඩුගත් අත්ඇතිව සිටගත්හ. මහත් සෘද්ධිඇත්තාවූ තෙතිස්
80 දෙව්පිත්හු තුමූ සුමුගුගත් අත්ඇත්තාහු පරසතු මලින් පුද
මින් එහි සිටගත්හ, දෙතිස් දෙව්කුමරියෝ අඬුවැට පහන්
81 දරමින් සිටියෝය, අෂ්ටවිංශති යක්‍ෂසෙනාධිපතිහු වනාහි
82 දුෂ්ටවූ යකුන් පලවා ආරක්‍ෂාකෙරෙමින් සිටගත්හ. පඤ්චසිඛ
නම් දෙවපුත්‍රතෙම වීණා වයමින් එහි සිටියේය, තිම්බරු
දෙව්පිත්තෙම නෘත්‍ය භූමියක් මවා තූර්‍ය්‍යඝොෂා ඇතිව සිටි
83 යේය. නොයෙක් දෙවපුත්‍රයෝද සාධු ගීතිකා යොදනෙනෝ
වූහ. මහාකාළ නම් නාරජතෙම නොයෙක් පරිද්දෙන්
84 ස්තුතිකෙරෙමින් සිටියේය. දිව්‍යතූර්‍ය්‍යයන් වයනු ලබති දිව්‍ය
සඞ්ගීතයද පවති. දෙවතාවෝ දිව්‍යසුගන්ධඇත්තාවූ වැසිද
වස්වති.

85 ඒ ඉන්ද්‍රගුත්ත නම්වූ ස්ථවිරතෙම වනාහි මරු පසුබස්වන්
නාවූ ලෝහමය ඡත්‍රයක් සක්වළ සමකොට මැවූසේක. ධාතු
86 න්ගේ ඉදිරියෙහි ඒ ඒ (දිග) පස්තැනෙක්හි සියලු භික්‍ෂූහු
87 ගණසජ්ඣායනා කළහ. අතිශයෙන් සතුටුවූ දුටුගැමුනු මහ
88 රජතෙම එහි ආයේ හිසින්දරා ගෙණඑවූ සුවර්ණමයවූ
කරඬුවෙහි ධාතුකරඬුව තබා අස්නෙහි පිහිටුවා ධාතුපූජා වැඳ
89 දෙහොත් මුදුනබැන්දේ එහි සිටියේය. ක්‍ෂත්‍රියතෙම මෙහි
(පවත්නාවූ) දිව්‍යච්ඡත්‍රාදීන්ද දිව්‍යගන්ධාදීන්ද දැක, දිව්‍ය
90 තූර්‍ය්‍යදීන්ගේ ශබ්දයන් අසාද, බ්‍රහ්මයන්හා දෙවියන් නො
දැක ආශ්චර්‍ය්‍යඅද්භූත සිත්ඇතිව සතුටුවූයේ සේසතින් ධාතූන්
91 පිදූයේ ලඞ්කා රාජ්‍යයෙහි අභිෂෙකද කෙළේය. ඒ නරෙන්ද්‍ර
තෙම "දිව්‍යච්ඡත්‍රයද මානුෂික ඡත්‍රයද විමුක්තිච්ඡත්‍රයද යන
ඡත්‍රත්‍රය දරනනාවූ ලෝකස්වාමීවූ ශාස්තෘන් වහන්සේට
92 තුන්යලක්ම මාගේ රාජ්‍යය දෙමි" කියා සතුටු සිත්ඇතෙන්
93 ලඞ්කාරාජ්‍යය තුන්වරක් ධාතූන්ට දුනෙන්ය. ක්‍ෂත්‍රියතෙම
දෙව් මිනිසුන් සමග ඒ ධාතුපුදමින් කරඬුහා සමග හිසින්
94 ගෙණ භික්‍ෂු සඞ්ඝයා විසින් වටකරණලද්දේ චෛත්‍යය
ප්‍රදක්‍ෂිණකොට පෙරදිගින් ගෙණවුත් ධාතුගර්භයෙහි බැස්
95 සේය. සයානූකෙළක් රහතුන්වන්සේලා උතුම් ථූපය හාත්
96 පසින් පිරිවරා කරණලද ඇඳිලි ඇතිව වැඩසිටගත්හ.
ධාතුගර්භයට බැස ප්‍රීතියෙන් පූර්ණ නරනිඳුහු මාහැභිවූ

97 යහපත් යහනෙහි තබමැයි සිතනකල්හි, ධාතුසහිතවූ කර
ඬුවතෙම ඔහුගේ මස්තකයෙන් උද්ගතව සත්තලක් පමණ
98 අහස්කුස සිටිසේක. ඉක්බිති කරඬුව තෙමේම හැරුණේය
ධාතූහු එයින් අහසට නැගී (දෙතිස්මහා පුරුෂ) ලක්ෂණ
යෙන්හා (අසූඅනු) ව්‍යඤ්ජනයෙන් බබලනනාවූ බුද්ධවෙසය
99 රැගෙණ ගණ්ඩම්බමූලයෙහි සර්වඥයන්වහන්සේ මෙන්
ජීවමානවූ සම්බුදුන් විසින් ඉටන ලද්දාවූ යමා (මහ) පෙළ
100 හර කළාහුය. ඒ පෙළහර දැක ප්‍රසන්නව එකඟ සිත්ඇත්
තාවූ දෙළොස් කෙළක් දෙව්මිනිස්හු රහත්බැව් පත්වූහ.
101 (සෝවාන් ආදීවූ) පලතුණට පත්වූ සෙස්සෝ සඞ්ඛ්‍යාපථය
ඉක්ම පැවැත්තාහ.

102 ඉක්බිතෙන් ඒ ධාතූහු බුද්ධවෙසය හැර කරඬුවෙහි පිහි
ටියහ, කරඬුව එයින් පාතබැස රජහු මස්තකයෙහි පිහිටී
යේය, ඒ රජතෙම වනාහි ඉන්ද්‍රගුප්තනම් ස්ථවිරයන්හා නාටි
103 කාවන් සමග ධාතුගර්භය හරිමින් යහපත් යහන කරා
පැමින කාන්තිධරවූයේ රුවන් පළගෙහි කරඬුව තබා,
104 නැවත සුවඳ කවනලද ජලයෙන් හස්තයන් ධොවනය
105 කොට, ගෞරව සහිතවූයේ සිවුද්දු ගඳ ගල්වා කරඬුව
විවෘත කොට ඒ ධාතූන් ගෙනෙ, මහජනයා කෙරෙහි
106 වැඩකැමැති පෘථිවීශ්වරතෙම මෙසේ සිතුයේය. "ඉදින්
ධාතූහු කිසිවකුන්ගෙන් නිරවුල්වීනාහූද, ඉදින් ධාතූහු
107 ජනයාට සරණව සිටිනාහූද, මනාකොට පණවනලද මහ
රුවූ යහනෙහි ශාස්තෲන්වහන්සේ පරිනිර්වාණ මඤ්ච
යෙහි හොත්තාවූ ආකාරයෙන් ශයනය කෙරෙත්වා" ඒ
108 රජතෙම මෙසේ සිතා උතුම් යහනෙහි ධාතූන් තැබූයේය.
ධාතූහුද ඒ ආකාර ඇතිව උතුම් යහනෙහි ශයනය කළහ.
109 ඇසළමස ශුක්ලපක්ෂය සම්බන්ධවූ පසළොස්වක්හිවූ උතුරු
සළ නකතින් මෙසේ ධාතු පිහිටියාහූය. ධාතූන්ගේ පිහිටීම
110 හාසමග මහපොළෝ තොමෝ කම්පිතවිය, නොයෙක්
111 පරිද්දෙන් නොයෙක් ප්‍රාතිහාර්‍ය්‍යයෝ පැවැත්තාහ. ප්‍රසන්
නවූ රජතෙමේ ඒ ධාතූන් සේසතින් පිදූයේය, ලඞ්කාවෙහි
112 සියලු රාජ්‍යය සත්දවසක් දුන්නේය. දෙහයෙහි පැලඳි
සර්වාභරණ දාගැබෙහි පූදකෙළේය, නාටිකාවෝද අමාත්‍ය
113 යෝද පිරිසද දේවතාවෝද එසේකළහ. මිහිපතිතෙම
වස්ත්‍රයන්හා උක්සකුරු ගිතෙල් ආදීන් සඞ්ඝයාටදී මුළුරැය
114 භික්ෂූන්ලවා ගණසජ්ඣායනා කරවූයේය, ජනසමූහයා
කෙරෙහි වැඩකැමැතිවූ නරේන්ද්‍රතෙම "සියලු ජනයෝ මේ
115 සත්දවස ධාතූන් වඳිත්ව"යි දෙවෙනි දවස නගරයෙහි

බෙර හැසිරවූයේය. "ලක්දිව දූ වඩිනු කැමැත්තාවූ යම්
116 මනුෂ්‍යකෙනෙක් වෙත්නම්, එකෙණෙහිම මෙහි අවුත්
දූ වැඳ කැමතිසේ සියගෙට යෙත්වා" යි ඉන්දගුත්ත නම්වූ
117 මහත් සෘද්ධිමත්වූ ස්ථවිරතෙම අධිෂ්ඨාන කළසේක. එය
ඉටනලද පරිද්දෙන් විය. ඒ මහා යසස්ඇත්තාවූ මහරජ
118 තෙම මහාසඞ්ඝයාට ඒ සත්දවස නිරතුරුකොට මහදන්
පවත්වා "මාවිසින් ධාතුගර්භයෙහි කටයුතු නිමවන ලද්
දේය ධාතුගර්භය වැසීම දැනගන්නට සඞ්ඝයා සුදුස්සේ" යයි
119 කීයේය. සඞ්ඝතෙම ඒ සාමණේර දෙනම ඒ කර්මයෙහි
යෙදූයේය, ඔව්හු ගෙණේනලද (මේඝවර්ණ) පාෂාණයෙන්
120 වැසූහ. "මෙහි මල් නොමැලවෙත්වා මේ ගන්ධයෝ නො
වියලෙත්වා පහන්ද නොනිමෙත්වා කිසිවකුත් නොනසීවා,
121 මේඝවර්ණ ෂට්පාෂාණයෝ අතුරුනැතිව ගැළපෙත්
වා" යි රහතන්වහන්සේලා මේ සියල්ල අධිෂ්ඨාන කළහ.
122 වැඩකැමතිවූ මහරජනෝ "මහජනතෙම මෙහි ශක්තිවූප
රිද්දෙන් ධාතුනිධානයන් කෙරේව" යි අණවූයේය. මහ
123 ජනතෙමේ මහාධාතුනිධානය පිටද අහස්ගණින් ධාතූන්
සම්බන්ධවූ නිධානයන් ශක්තිවූ පරිද්දෙන් කෙළේය, නරේ
124 න්ද්‍රතෙම ඒ සියල්ල පියවා ථූපය සමාප්තකරවූයේය, මෙහි
චෛත්‍යයෙහි සතරැස්කොටුවද නිමවූයේය.

125 මෙසේ පිරිසිදු සිත්ඇත්තාවූ චෙතොඛිල රහිතවූ සත්
පුරුෂයෝ සියලු සම්පත්තීන් අතුරෙන් උතුම්වූ නිර්වාණ
සම්පත්තිය හෙතුකොට නිර්මලවූ පුණ්‍යයන්ම තුමූත්
කෙරෙති, නානාප්‍රකාර විශෙෂ ඇත්තාවූ ජනසමූහයා පිරි
වර කිරීමට හෙතුවූ පින්කරවනනාහුද වෙති.

මෙතෙකින් හුදිජනයා ප්‍රසාද සංවෙග පිණිස කළ මහ
වංස ධාතුනිධාන නම්වූ එක්තිස්වන අදියර නිමි.

---

# 32 වෙනි පරිච්ඡෙදය.

1 (සටකී පරිද්දෙන් කරණලද රුවන්වැලි) සෑයෙහි සත්
කම්යා සුණුකම් නොනිම්කල මාරණාන්තිකරොගයෙන්
2 රජතෙමේ ගිලන්විය ඒ තෙමේ මල් තිස්සකුමරහු දීගා
වැපින් කැඳවා "සෑයෙහි නොනිම් කර්මාන්තය නිමව" යි

3 තීයේය. ඒ කුමර තමා බෑයා දුර්වලබැවින් සන්නාලින්
ලවා සුදු පිළියෙන් සැට්ටයක් කරවා ඒ සැට්ටයෙන් සැය
4 වස්වා, සිත්තරුන්ලවා එහි පිළිකඬද පූර්ණ ඝට පන්තීන්ද
5 පසඟුල් පන්තියද මනාකොට කරවීය. එසේම සත කරුවන්
ලවා. හුණුදඬු මුවා ඡත්‍රයද, මුදුන්පිළිකඬ කරපත්මුවා සඳ
6 හිරද කරවීය. මෙසේකළ සැය ලාකඩ හා කොකුම්වන් මොන
වට සිත්තම් කරවා "සැයෙහි කටයුතු තිස නිම්යේය" යි රජ
7 හට දැන්වීය. රජතෙමේ සිවිගෙයක හෙවගෙණ සිවිගෙ
8 සින්ම සැය පැදකුණුකොට වැඳ; දකුණු දොරටුයෙහි බිම
අතුළ සයනයෙක හෙව, ඒ තෙමේ දකුණතලයෙන් හෙව
9 උතුම් මහසැයද වම්අතලයෙන් හෙව උදුම් ලොහොපහ
යද, දකිමින් භික්ෂුසඞ්ඝයා විසින් පිරිවරණ ලදුයේ පහත්
10 සිත්වීය. ගිලන්බැව් පුළුවුස්නා පිණිස ඒ ඒ දිගින් වැඩි,
11 සයානූ කෙළක් භික්ෂූහු ඒ සමාගමයෙහිදූහූ. භික්ෂූහු වග
බැඳගෙණ ගණසජ්ඣායනා කළහ. මිහිපල්තෙම ඒ සමාග
12 මයෙහි ථෙරපුත්තාභය නම් මහතෙරුන් නොදැක "අටවිසි
මහයුඩයෙහිදී යුඬකෙරෙමින් පරාජය නොවූ මාගේ
13 මහායොධවූ වසිවූ ථෙරපුත්තාභය නම් ස්ථවිර දැන් මාරයුඬ
පැමිනිකල මාකරා නොඑලඹෙනසේක; පරාජය දැක උන්
14 වහන්සේ නොවඩනාසේකැයි සිතමි" රජතෙමේ මෙසේ
සිතූයේය. ඒ මහා ස්ථවිරතෙමේ කිරිදිඔොය හිස පජලි නම්
15 ගල වෙසෙමින් රජහු සිතිවිලි දැන පන්සියයක් රහත් පිරි
වරින් සෘඬිබලයෙන් අහසින් අවුත් රජහුවෙත සිටගත්
16 සේක. රජතෙම උන්වහන්සේ දැක පහන්වූයේ ඉදිරියෙන්
17 හිඳුවාගෙණ "මම පූර්වයෙහි දසමහයොධවූ තුඹවහන්
සේලා ගෙණ යුදකෙළෙමි, දැන් හුදකලාවම, මරුහා යුද
පටන්ගනිමි මරසතුරා පරදවන්ට නොහැක්කෙමි" යිද කී
යේය.

18 ස්ථවිරතෙමේ වදාරණසේක් "ජනප්‍රධානවූ මහරජනෙනි
නහමක් බියවේවා, කෙලෙස් සතුරා නොපරදවා මරසතුරා
19 පැරදවිය නොහැක්කේය "සියලු සංස්කාරයෝ අනිත්‍යහ"
20 යි ශාස්තෘන් විසින් දෙසිතමැයි. ලජ්ජාභය රහිතවූ මේ අනි
ත්‍යතා තොමෝ බුදුන්කරාද එලඹෙයි, එහෙසින් සංස්කාර
21 යෝතුමූ අනිත්‍යහ, දුක්ඛයහ, අනාත්මයහයි, සිතා (පැවැත්ත
සුතෙනෑය) මිට (පූර්වයෙන්) දෙවන අත්බැව්හිද තොපගේ
22 කුසල කරණයෙහි අභිප්‍රාය මහත්මැයි, දෙව්ලොව එලඹ
සිටිකල තෙපි ඒ දිව්‍යසැප හැර මෙහි අවුදින් නොයෙක්
පරිද්දෙන් බොහෝ පින්කම් කළහ, තොපවිසින් එක්සේ

23 සත්කොට රාජ්ජභරණයත් සසුන් බැබලවීම දිණ්සය. එබැ
වින් මහපින් ඇත්තානෙනි අද දවසතෙක් තොපවිසින් කළ
24 පින් සියලල මෙනෙහිකර, මේ උපායෙන් තොපට එකෙ
ණෙහි සුවවිඳෙව්ය'' යි වදාළසේක. තෙරුන් බස්අසා රජ
තෙමේ පහන්සිත් ඇතිව්ය "ඔබ මාරයුද්ධයෙහිත් මට අත්‍ය
25 න්තොපකාර සේකැ'' යි උන්වහන්සේට කීයේය පහන්සිත්
26 ඇතෙත් එකෙණෙහිම පින්පොත ගෙන්වා ඒ කියන්ට
ලියනහුා මෙහෙයීය. ඒ තෙමේ ඒ පොත කීයේය.
27 "මහරජහු විසින් එකුන්සියයක් විහාරයෝ කරවනලද්දුහ.
එයින් මිරිසවැටියම එකුන්විසිකෙළකින් කොට නිමියේය,
උතුම්වූ ලොහොපහය තිස්කෙළකින් කොට නිමවනලදී
28 "මහරජතෙනි ඥනා බුඩ්ඇති ඔබවිසින් මහසෑයෙහි ඇතුළ
කරවනලද ගණන් නොකටහැකි සුවිසක් හැර සෙසු
29 මහසෑ කර්මාන්තයෝ කෙළදහසක් අගණහ'' යි කීයේය.
"කොලඹනම් මලයරට බුළුකෑ සායෙහිදී මහඟු මිණිකො
30 ඩොල් සඟල විකුණ මිළගෙණ පන්සියයක් ක්ෂීණශ්‍රව මහ
31 තෙරුන්ට පහන්සිතින් උතුම්වූ ඇඹුල්සහිත තණසාලේ
පිඩපාතය දෙනලද්දේය. චූලඟතිය යුඩයෙහිදී පැරද පලා
32 යනනහු විසින් කාලඝොෂා කරවා අහසින් වැඩියාවූ ක්ෂීණ
ශ්‍රව යතිකෙනෙකුට තමා නොතකා රන්තැටියෙහි බත
33 දෙනලද්දේය'' මෙසේ කීකල රජතෙමේ (කියන්නේ) "වෙ
නෙර පෙළහර සතියෙහිද එසේම ප්‍රාසාද පූජාසතියෙහිද ම
හසෑ ආරම්භ සතියෙහිද එසේම ධාතුනිධානයෙහිද සතර දි
34 ශින් වැඩියාවූ මහත්වූ උභතොමහසඞ්ඝයාට මාවිසින් මාහැ
35 හිවූ අවිශෙෂ මහාදානය පවත්වනලද්දේය. සුවිස්සක් මහත්
වෙසක් පූජාද කරවීම්, ලක්දිව සියලු සඞ්ඝයාට තුන්වරක්
36 තුන්සිවුරු පූජාකරමි, පහන්සිත්ඇති මම සත් සත් දවස
බැගින් ලක්දිව්හි මේ රජය පස්වරක් සසුන් විසයෙහි දුන්
37 නෙමි, සතතයෙන් දෙළොස්මහතන්හි පිරිසිදු වැටියෙන්
ගිතෙලින්ම බුදුන් පුදමින් පහන් දහසක් දැල්වීමි. තවද
38 මම අනවරතයෙන් අටළොස් තැනෙක වෙදුන් විසින්
39 විධානකරණ ලදුවූ ගිලන් බත්හා බෙහෙත් ගිලනුන්ට
40 දෙවීමි, සුසාළිසක් තැන සකස්කළ කිරිබතද (දුනිමි,)
එතෙක්තැන්හිම තෙල් කැවුම්ද එතෙක්තැන්හිම ගිතෙ
41 ලෙහිබැදි මහදැල් කැවුම් එසේම බත්සමග නිත්‍යයෙන්
දෙවීමි, මසක් පාසා පෙහෙවස් දවස්හි ලක්දිව අටමහ
42 විහාරයෙහි පහන් තෙල් දෙවීමි, ආමිසදානයට වඩා ධර්ම
දානය මහත්යැයි අසා ලොහොපහය යටමිහලෙහි සඟමැද

43 අස්නෙහි හිඳගත්තාවූ මම මහාමඞ්ගල සූත්‍රය සඞ්ඝයාට
දෙසන්නෙමැයි (සිතා) සඞ්ඝ ගෞරවයෙන් අස්වන්ට නො
44 හැකිවීමි, එතැන් පටන් ලක්දිව ඒ ඒ තැන විහාරයන්හි
45 ධම්මදෙසකයන්ට සත්කාරකොට දහම් දෙස්වීමි, ධම්ම
46 කථික එක් එක් නමකට ගිතෙල් ගුඩශර්කරා නැළියක්
නැළියක්ද දෙවීමි, සතරඟුල් අක් වැල්මී මිටක් මිටක්ද
දෙවීමි, එසේම පිළිසඟලක්ද දෙවීමි, (මේ කියනලද) ඉසු
47 රෙහි පිහිටා දුන් යසිලු දානයෝ මේතරම් මාසිතු නොපහ
දවයි, ඇවිනොබලා දුග්ගතවූම මාවිසින් දෙනලද යම් දන්
දෙකෙක්වේනම් එයම මාසිත පහදයි" කීයේය.

48 ඒ අසා අභයස්ථවිරතෙමේ බැගෑකල දුන් දානවයම
රජහු සිත් පහන් පිණිස නොයෙක් ආකාරයෙන් වර්ණනා
49 කරණසේක් "ඒ තෙරුන්වහන්සේලා පස්දෙනා අතුරෙන්
ඇඹුල් සහිත තණබත්ගත් මලියදේව මහාස්ථවිරතෙමේ
50 සමන්කූළ පව්හි නවසියයක් භික්ෂූන්ටදී වැළඳූසේක. පෑවිච්
51 පාලක ධම්මගුප්තස්ථවිරතෙමේ ඒ පිඩපාතය, කැළණි
විහාරයෙහි පන්සියයක් භික්ෂූන් සමග බෙදාගෙණ තෙ
52 මේත් වැළඳූසේක. තලගුරුවැසි ධම්මදින්න ස්ථවිරතෙමේ
පූවගුඩිවයින දසදහසක් භික්ෂූන්ට බෙදාදී එය වැලඳූසේක.
53 මඞ්ගනවැසි මහා සැඩිඇති කුඩාතිස්ස ස්ථවිරතෙමේ කෛ
ලාස විහාරයෙහි සැටදහසක් දෙනාට බෙදාදී වැළඳූසේක.
54 මහාව්‍යග්‍ර ස්ථවිරතෙමේද උක්කානුවර විහාරයෙහි සත්සිය
55 යක් භික්ෂූන්ටදී තෙමේත් පරිභොග කළසේක. රත්නැටි
යෙහි බත්ගත් (කුටිම්බික පුත්‍ර මහා) ස්ථවිරතෙමේ දොළොස්
56 දහසක් භික්ෂූන්ටදී ඒ වැළඳූසේක." අභය ස්ථවිරතෙමේ
මෙසේකියා රජහුගේ සිත පහන්කරවූසේක.

රජතෙමේ සිත පහදවාගෙණ ඒ තෙරුන්ට මෙසේ සැල
57 කෙළේය "සූවිසි වසක් මුළුලෙලහි සඞ්ඝයාට උපකාරක (වූ
58 යෙමි) මෙම කායද සඞ්ඝයාට උපකාරවේවා. මහසෑයට පෙ
ණෙන්නාවූ සඞ්ඝයාගේ කම්මමාලකයෙහි සඞ්ඝදාසවූ මාගේ
59 සිරුර ආදහන කළමැනවැ"යි කියා මලුට (කියනෙන්)
"තිස්සය තෙපි මහසෑයෙහි නොනිම්යාවූ සියලු කම්මාන්තය
60 සකසා යෙහෙන් නිමව. උදයත් සවසත් මහසෑයෙහි මල්
පූදව මහසෑයට (දවස තුන්වරක්) පෙළහරකරව. පියේ
61 තෙපි මාවිසින් සුගත් සසුන්හි යම් ව්‍යාපාරියක් පිළියෙළ කර
62 ණලද නම් ඒ සියල්ල නොපිරිහෙලා පවත්වව. තවද පියේ
හැමකල සඞ්ඝකෘත්‍යයන්හි නගමක් ප්‍රමාදවව"යි මෙසේ
රජතෙමේ ඔහුට අනුශාසනාකොට තුෂ්ණීම්භූතවූයේය.

63 එකෙණෙහි භික්ෂු සඞ්ඝතෙමේ ගණසජ්ඣායනා කළ
සේක. දෙවියෝ සදිව්‍යලෝකයෙන් රථ සයක් එලවූහ.
64 රථයෙහි සිටියාවූ ඒ දෙවියෝ වෙන් වෙන්ව රජහට "මහ
රජානෙනි සිත්කළුවූ අප අපගේ දෙව්ලොවට ඔබ අවමැන
65 ව" යි යාච්ඤා කළෝය. රජතෙමේ ඔවුන් බස් අසා "මම
යම්තාක් බණ අසම් නම් ඒතාක් ඉවසව" යි හස්තසංඥාවෙන්
66 වැලකුයේය. භික්ෂූහු "ගණසජ්ඣායනාව වලකත්තේය" යි
කියා දේසනාව නැවැත්වූහ. රජතෙමේ ඒ නැවැත්මට
67 හේතු විචාළේය. ඒ භික්ෂූහු "නැවැත්ත මැනවයි සංඥා
දුන් බැවිනැ" යි වදාළෝය, රජතෙම "ස්වාමීනි ඒ එසේ නො
68 වෙ" යි කියා දෙවියන්ට දන්නුබව කීයේය. ඒ අසා සම
හර දෙනෙක් "මරණභයින් භයවූ මේතෙමේ වලප්නේ
69 ය" යි සිතූහ. ඔවුන්ගේ සැක දුරලනුපිණිස ඒ අභය ස්ථවිර
තෙමේ රජහට වදාරණසේක් "(මහරජ තොපට) රථ එලවන
ලදහයි කෙසේ දන්විය හැක්කේද" යි මෙසේ වදාළසේක.
70 පණ්ඩිතවූ රජතෙමේ මල්දම් අහසෙහි දම්මවිය. ඒ මල්දම්
වෙන් වෙන්ව රියහිස්හි ලැගුණාහූ එලූනෝය. මහජන
71 තෙමේ අහස එලෙනනාවූ ඒ මල්වඩම් දැක සැකහළේය.
රජතෙමේ "වහන්ස කවර දෙව්ලොවෙක් රම්‍යදෙ" යි ඒ
72 තෙරුන් විචාළේය. ඒ ස්ථවිරතෙමේ "මහරජානෙනි තුසිත
පුරය සිත්කළුයයිද සත්පුරුෂයන් විසින් අභිමතයිද මහා
73 කරුණාඇති මෙතේ බෝසත්තෙමේද බුදුබව පිණිස කල්
බලමින් තුසීපුර වෙසෙ" යි වදාළසේක.
74 මහපැණැති රජතෙමේ තෙරුන් බස්අසා මහසෑය බල
75 මින්ම හොනතත් ඇස්පියා හෙළීය. එකෙණෙහිම මෙයින්
චුතව තුසිතපුරයෙන් එලවූ රියෙහි ඉපිද සිටගත්තේය.
76 දිව්‍ය දෙහඇත්තේ කළපින්කම් හූගේ එල දුටුයේය. මොනා
77 වට සරහනලද තමා අත්බැව් මහජනයාට දක්වනුසඳහා
රථයෙහි සිටගෙණම මහසෑය තුන්යලක් පැදකුණුකොට
78 සෑයත් සඞ්ඝයාත් වැඳ තුසීපුර ගියේය.——නාටකස්ත්‍රීහු
මෙහි අවුදින් යම් තැනෙක්හිදී (මළරජහූ) ඔටුනත ගැල
79 වූද ඒ මෙහි කළ සාලාතොමෝ මකුට මුක්තශාලායි නම්
විය. රජහූ සිරුර දරසෑයෙහි තැබූකල්හි මහජනතෙමේ
80 යම්තැනෙක්හිදි හැඬූයේද එහි සාලාව රාවවත්තී නම්විය.
යම් නිස්සීම මාලකයෙක්හි රජහූගේ සිරුර දැවූද මෙහි එම
මාලකය රාජමාලකයයි කියනුලැබේ.
81 රාජනාමයට හොබනාවූ ඒ දුටුගැමුනු මහරජතෙමේ
82 මෙතේ බුදුහුගේ අගසව් වන්නේය. රජහු පියතෙමේ ඒ

බුදුහු පියද මවුතොමෝ මව්ද වෙත්, මල් සැදැහැතිස් රජ
83 දෙවනසව් වන්නේය. ඒ දුටුගැමුණු රජු පිත්වූ ද්‍රසිඩ
සාලිරාජ කුමර මෙතේ බුදුහු පිත්වන්නේය.
84 යමෙක් මේ ආකාරයෙන් කුසල්ම උතුමැයි සිතාගෙණ
පින්කෙරේනම් ඒතෙමේ බොහෝවූත් අනියම් පාපයන්
වසමින් සියගෙට සෙයින් දෙව්ලොව යෙයි එහෙයින් නුවණ
නැත්තෝ පින්කම්හි නිති ඇලුනේ වන්නේය.

මෙතෙකින් සුදිජනයා පහන් සංවෙග පිණිස කළ මහ
වංස තුසිතපුරගමන නම්වූ දෙතිස්වන අදියර නිමි.

---

# 33 වෙනි පරිච්ඡෙදය.

1 දුටුගැමුනු රජහුගේ රජයෙහි ජනයා පිනාගියෝවූහු.
2 සාලි රාජකුමාරයයි ප්‍රසිඩවූ පිතෙක් ඒ රජහට ඇතිවිය අති
ශයින් වාසනාවන්තය, හැම්කල පින්කම්හි ඇළුනේවි, හේ
3 ඉනා ලාවන්‍ය රූඇති චණ්ඩාලියක් කෙරෙහි ඇලුනේය. පූර්ව
ජාතියෙහි සම්බන්ධවූ ඒ අසෝකමාලා දේවිය රූබැවින් අති
ශයින් ප්‍රියකරනෙත් රජය නොම පැතීය.
4 එහෙයින් දුටුගැමුනු රජහු මල් සඩාතිස්ස කුමර ඔහු
ඇවෑමෙන් අභිෂෙක කරණ ලදුයේ, සම අටළොස් හවු
5 රුදක් රජය කෙළේය. සැදැහැ හෙයින් කරණලද සඩා
6 තිස්ස යයි නම්ඇති හේතෙමේ මහසෑ පිළිබඳ සත්කම්ද
සුණුකම්ද ඇත්පවුරද කරවීය. මනාකොට සැදුම්ලද
ලොහොපායතෙමේ පහනකින් දැයේය. ඒ පහය නැවත
7 ඒතෙමේ සත්මහල්කොට කරවිය. එකල්හි ඒ පහය අනූ
ලක්ෂයක් අගණේවි. ඒ රජතෙමේ දක්ෂිණගිරි විහාරය
8 කලලක ලෙන කුළුම්බාල විහාරය එසේම පෙතගවැලි
9 විහාරය වෙලඟවැටිය දුබ්බිල්වැතිස් විහාරය දුරතිස්වැව
එසේම මාතුවිහාරය දිගාවැව දක්වා යොදනෙන් යොද
10 නෙහි විහාරද කරවීය. දිගාවැ වෙහෙරද සෑයක් සහිත
කොට කරවීය. ඒ සෑය වසා එලන සත්රුවන් ඇවුනු
11 සැට්ටයක් කරවීය. රියසක් පමණඇති සිත්කළු රත්මල්
කරවා ඒ දැල සත්බියක්පාසා ඇවිනවීය. පරාභිභවකරවූ

12 ඒ රජතෙමේ සුවාසූදහසක් ධම්මස්කන්ධයන්ට සුවාසූදහ
13 සක් පූජාද කරවී. ඒ රජතෙමේ මෙසේ නොයෙක් පින්
කොට ශරීර භෙදයෙන් පසු තුසීදෙව්යන් කෙරෙහි උපන්
නේසි.

14 සැදෑහැතිස් මහරජු දීගාවැව වසනකල ලදෑතිස් නම්
15 දෙටුපිත් ගිරිකුම්භීල නම් රම්‍ය විහාරය කරවීය. ඒ රජහු
බාල පිත් ථූලලාථන නම් කුමාරතෙමේ කඳුර නම් විහාරය
16 කරවීය. ථූලලාථන කුමර භාත්‍යවූ දුටුගැමුණු රජුවෙත එන
පියානන් සමගම තමන් කළ විහාරයාගේ සඞ්ඝභොග
17 පිණිස ආයේය. සැදෑහැතිස් මහරජු මළකල සියලු ඇමැති
18 යෝ ථූපාරාම විහාරයෙහි රැස්වූවෝ සියලු භික්ෂු සඞ්ඝයා
රැස්කොට රට රක්නා පිණිස සඞ්ඝානුමතියෙන් ථූලලාථ
19 න කුමරහු අභිෂෙක කළහ. ලදෑතිස් කුමර ඒ අසා මෙහි
අනුරාපුර අවුදින් උහු අල්වාගෙණ තෙමේ රජයකරවී.
ථූලලාථන රජ වනාහි එක්මස් දසදිනක් (රජයකෙළේය)

20 ලදෑතිස් රජතෙමේ තුන්හවුරුදුක්ම සඞ්ඝයා කෙරෙහි
ගෞරව නැතිව වැඩිමල් පිළිවෙළ නොදනෙත යයි ඒ
21 සඞ්ඝයාට පරිභාෂණය කෙළේය. පසුව රජතෙමේ සඞ්ඝයා
කමාකරවා දඬුවම් පිණිස තුන්ලක්ෂයක් (කහවණු) දී
22 මහසෑයෙහි සෙල්මුවා මල්අසුන් තුනක් කරවීය. වැලි
ඒ භූමීශ්වරතෙමේම ලක්ෂයකින් මහසෑ ථූපාරාම අතර බිම
23 සම්කොට ගොඩකරවීය. තවද ථූපාරාමයෙහි සෑයම ගලින්
24 උතුම්වූ දාගෙයක්ද කරවී. ථූපාරාමයට පෙරදිග ගල්දෑ
ගැබද භික්ෂුසඞ්ඝයාහට ලජ්ජික නම් (නමා නමින්) ආසන
25 සාලාද කරවී. සෑගිරි වෙහෙර කටුසෑයෙහි ලක්ෂයක්දී
26 සෙල්මුවා දාගෙයක්ද කරවී. එම රජතෙමේ ගිරිකුම්භීල නම්
විහාර පූජයෙහි සැටදහසක් භික්ෂූන්ට තුන්සිවුරු දෙවී.
27 රිටිගල විහාරය එසේම කඳුරශිනක නාම් විහාරයද කරවී.
28 ග්‍රන්ථධුර භික්ෂූන්ට බෙහෙත්පස දෙවී. කුම්ක් කැමැතියි
විචාරා කැමැති දෑයද සහල්ද භික්ෂුණීන්ට දෙවීය, ඒ රජ
තෙමේ මේ නුවර නවහවුරුදු අටමසක් රජයකරවී.

29 ලදෑතිස් රජු මළකල උහුමල් ඛල්ලාටනාග නම් රජ
30 සහවුරුදුක්ම රජය කෙළේය. මේ රජ ලෝවාමහ පාය
සිසාරා ඉතා මනරම් දෙතිස් ප්‍රාසාදයක් ලොහොපහයගේ
31 ශොභා පිණිස කරවීය. මනරම් රුවන්මල් නම් මහසෑය
32 හාත්පස වැලිමළු සීමායෙහි පවුරුද කරවීය. ඒ තෙමේම
කුරුඳු පාසක නම් විහාරයද කරවිය. මිහිපල්තෙමේ
අනාවුත් පින්කරවීය.

33 මහාරත්තක නම් සෙනෙවිතෙමේ බල්ලාටනාගරජනම්වූ
34 ඒ මිහිපල්හු නුවරිදීම ගනෙත්ය. ඒ රජු මල් වට්ටගාමනී
35 නම් කුමර ඒ දුෂ්ට සෙනෙවියා මරා රජයකරවී......ඒ වළ
ගම්බා රජතෙමේ ස්වකීය භාතෘවූ බල්ලාටනාග රජහුගේ
36 ලදරු පිත්වූ මහාචූලික නම් කුමරද පුත්‍රස්ථානයෙහි තැ
බ්ය. ඒ කුමරහු මෑනිවූ අනුලා දේවියත් බිසව්කොට ගත්
තේය. මේ කුමරහු පියතනතුරෙහි සිටි බැවින් (ලෝවැ
සෙසෝ) පිතු රජයසි ව්‍යවහාර කළහ.

37 මෙසේ අභිෂෙක කරණලද ඔහුගේ රජයෙහි පස්වෙනි
මස්හිදී රුහුණුරට නකුල නගරයෙහි තිස්සනම් අපණ්ඩිතවූ
38 එක් බමුණු චෙටකයෙක් බමුණෙකු වදන් අසා දමරික
39 විය. එසේම ඔහුගේ පිරිවරද මහත්විය සෙත් සහිත
40 දෙමළුන් සත්දෙනෙක් මහතොට ගොඩබටහ. එකල බමු
ණුතිස් තෙමේත් ඒ දෙමළුන් සත්දෙනාත් ඡත්‍රය පිණිස
41 රජහුවෙත ලියුම් එවූහ. නිතිදත් රජතෙමේ බ්‍රාහ්මණ
තිස්සයහට "දැන්ම රජය තාගේමය තෝ දෙමළුන් ගණු
ව"යි ලියුම් යැවීය. ඒ තෙමේ මැනවැයි කියා දෙමළුන්
හා යුදකෙළේය, දෙමළු ඔහු ගත්තුය.

42 ඉක්බිති ඒ දෙමළු කොලඹෑල සමීපයෙහි රජුහා යුදක
43 ළෝය. යුදයෙහිදී රජතෙමේ පැරැදේදේ රියනැගී තිත්ථකා
44 රාම වාරයෙන් පලායයි. ඒ තිත්ථකාරාමය වනාහී පණ්ඩුකා
භය රජු විසින් කරවනලදුයේ, අනවරතයෙන් එක්විසි රජ
45 කෙනෙකුන් දවස තබනලද්දේම විය. පලායන ඒ රජු දැක
ගිරි නම් නිගණ්ඨතෙමේ "මහකළු සිංහලයා පලායේ"යි
කියා අතිශයින් හඬගීය. එකල මහරජ ඒ අසා 'මාගේ
මනෝරථය මුදුන් පැමිනිකල මෙහි වෙහෙරක් කරවනෙන
46 මැ"යි මෙසේ සිතුයේය. ගැබ් සහිත අනුලා දේවිය රක්ෂා
කටකයුතායයි හැරගත්තේය. එසේම රුකසා යුත්තේයයි
47 සිතා මහාචූල මහානාග කුමරුන් දෙනනාත් ගත්තේය,
රථයාගේ සැහැල්ලුබව පිණිස යහපත් සිළුමිණක්දී, මිහි
48 පල්තෙමේ සොමදේවිය ඇයගේ අනුමතියෙන් රථයෙන්
බැස්විය. යුදපිණිස ගමන්හිදීම පරාජයෙහි ශඞ්කාඇ
49 තොත් පුත්‍රයන්හා දේවීන් දෙනනා ගෙන්වාගෙණ බුදුන්
වැලඳූ ඒ පය ගෙන්වාගන්ට නොහැකිව නික්මුනේය.
50 පලාගොස් වෙස්සගිරි විහාරබද වනයෙහි ඒ තෙමේ සැඟ
විනි. එහිදී කුප්කකුල මහාතිස්ස ස්ථවිරතෙමේ ඒ රජු දැක
51 අනාමෘෂ්ට පිණ්ඩදානය හැර ආහාර දුන්නේය. ඉක්බිති
පහන් සිත්ඇති රජතෙමේ වැටකේපත ලියා, ඒ විහාරයට

52 සඞ්ඝභොග දුනෙන්ය. එසින් ගොස් ගල්හෙබකඩ විසීය.
53 එසිනුදු පලාගොස් සල්ගල වෙත මාතුවේලඟයෙහි විසීය.
54 එහිදී රජතෙම පෙරදුටු තෙරුන් දිටීය. ඝ්විරතෙමේ උප
55 ස්ථායකවූ තනසීවයහට මිහිපල්හු දැඩියේ භාරකෙළේය. ඒ
රජ, රට නායකවූ තනසීවයා වෙත ඔහු විසින් උපස්ථාන
කරණලදුයේ තුදුස් හවුරුදුක් විසීය.

56 දෙමළුන් සත්දෙනා අතුරෙන් එකෙක්, මදුවහ සෝම
57 දේවිය (දැක ඇය) ගෙණ වහා පරතෙර ගියේය. එකෙක්
අනුරාධපුරයෙහි තුබූ බුදුහු පය ඇරගෙණ එසින් සතුටුව
58 යේ වහා පරතෙර ගියේය.——පුලහත්ථ නම් දෙමළතෙමේ
බාහියනම් දෙමළා සෙනෙවි කොට තුන්හවුරුදුක් රජය
කෙළේය. බාහියතෙමේ ඒ පුලහත්ථයා ගෙණ දෑවුරුදුක්
59 රජය කෙළේය. පණයමාරතෙමේ ඔහු සෙනෙවි වීය.
පණයමාරතෙමේ ඒ බාහිය නම් දෙමළ රජු ගෙණ සත්හවු
60 රුදුක් රජ වීය. පිළයමාර ඔහු සෙනෙවි වීය. ඒ පිළයමාර
තෙමේ පණයමාර රජු ගෙණ සත්මසක් රජවීය. දාඨිය
61 තෙමේ ඔහු සෙනෙවි වීය. ඒ දාඨියතෙමේ පිළයමාර රජු
62 ගෙණ අනුරාධ පුරයෙහි දෑවුරුදුක් රජවීය. මෙසේ ඒ
63 දෙමළ රජුන් පස්දෙනාගේම (රාජ්‍යය) තුදුස් හවුරුදුක්හා
මතෙහි සත්මසක් වීය.

64 තනසීවයා බිරිඳු තිවාප පිණිස කන්දෙහි ගියාවූ අනුළා
දේවියගේ පැසෙහි පයින් පහළාය. ඕතෙමෝ කිපී හඬ
65 මින් රජුවෙත එලඹියාය. ඒ අසා ඒ තනසීවතෙමේ දුනන
ගෙණ නික්මිනි. දේවිය බස් අසා උහුගේ ඊමෙන් පෙරතුව
66 රජතෙමේ කුමරුන් දෙනනාද දේවියද ගෙණ එතැනින්
පිටත්වීය. මහාසීවතෙමේ දුනන සරසාගෙණ එනනාවූ
67 සීවයා විද්දේය.——රජතෙමේ (මම වළගම්බා රජයෙමි
68 තමා) නම අස්වා ජනයා එකෙසළේය. මහත්වූ යොධසම්ම
තවූ ඇමැතියන් අටදෙනෙක්ද ලැබූයේය. රජහුගේ පිරි
වරද මහත් පෙළහරද ඇතිවී. මහත් යසස්ඇති රජතෙමේ
69 කුම්භිලක මහාතිස්ස තෙරුන් දැක, වලස්ගල් විහාරයෙහි
70 බුඩපූජාව කරවීය. මළුව ශුඩකරණු පිණිස නැංගාවූ කපි
සීස නම් ඇමතියා බස්නාකල දේවිය සමග රජතෙමේ උඩ
71 සැමළුවට නැගෙමින් මග හිඳගත්තාහු දැක "හොනෙත්
තොවේය"සි කිපී කපිසීසයා මැරවීය. ඒ කරණකොට
72 ගෙණ සෙසු සත් ඇමැතියෝද රජුහා කලකිරුණාහු, රජහු
වෙතින් පලාගොස් කැමැති පරිදෙන් යනනාහු මගදී
73 සොරුන් විසින් කොල්ලකන ලද්දාහු හඹුගල් වෙහෙරට

වැඩ බහුශ්‍රැතවූ තිස්සස්ථවිරයන් දුටුහු. චතුර්නිකාය
74 හදාළ ඒ තෙරණුවෝ ලත්සැටියෙන් වස්ත්‍රය පැනිය තෙල්ය
සහල්ය යනආගන්තුක උපකාරයන් දෙවිය. එසේම ඒ ස්ථ
75 විරතෙමේ "නොසුව කාලයෙහි කොයි යවුද" යි විචාළේය.
ඒ ඇමැතියෝ තමන් (අසවල්ලූයයි) ප්‍රකාශකොට එපවත්
දැන්වූහ. (තෙරුන් විසින්) "බුද්ධශාසනානුග්‍රහය කවුරුන්
76 හා කරවන්ට හැකිද? දෙමළුන් කැටිවද නොහොත් රජු
කැටිවදැ"යි විචාරණලද ඒ ඇමැතියෝ "රජහු කැටිව
77 හැක්කැ"යි කීවෝය. මෙසේ ඔවුන් කටයුතු හඟවා තිස්ස
මහාතිස්ස යන තෙරුන් දෙදෙනා ඇමතියන් ගෙණ
එතැනින් රජුවෙතට පමුනුවා උහුන් කමාකරවූහ.

78 රජතෙමේද ඒ ඇමැතෙතෝද මෙසේ ඒ තෙරුන් යාච්
ඤාකරනනාහු "කම්ම සඑලදූකල එසේම දූතයන් එවූ
79 කල අපවෙත අවමැනවැ"යි යාච්ඤාකළෝය. ඒ තෙරහු
80 ප්‍රතිඥාදී යථාස්ථානයට ගියෝය. මහා යසස්ඇති රජ අනුරා
පුර අවුත් දාඨික දෙමළහු මරා තෙමේ රජය කරවීය——ඉක්
81 බිති මිහිපල්තෙමේ ඒ නිගණ්ඨාරාමය විධ්වංසනය කරවා
එහි දොළොස් පිරිවෙණක් ඇති විහාරයක් කරවී. මහා
විහාරය පටන්ගැන්මෙන් හවුරුදු දෙසියසතළොස් දසමස්
82 දසදිනක් ඉක්මුනුකල (තුන්රුවන්හි) ගෞරවඇති ඒ මිහි
83 පල්තෙමේ අභයගිරි විහාරය පිහිටවීය. ඒ තෙරුන් දෙ
දෙනා කැඳවා උන්වහන්සේලා අතුරෙන් පූර්වොපකාර
84 කවූ මහාතිස්ස තෙරුන්ට මානදායක රජතෙමේ ඒවිහා
රය දුන්නේය——යම්හෙයකින් ගිරිනම් තැනැත්තාහුගේ
85 ආරාමයද යම්හෙයකින් අභය රජතෙමේ විහාරය කරවීද,
එහෙයින් නමින් අභයගිරියයි කියාද ඒ විහාරය වීය.

ඒ රජතෙමේ සෝමදේවිය ගෙන්වා යථාස්ථානසංඛ්‍යාතවූ
86 සිය තනතුරෙහි පිහිටවීය. ඒ බිසවුන්ගේ එම නම් කොට
සෝමාරාමය කරවීය. ඒ උත්තමාගනා තොමෝ වනාහි
87 රථයෙන් බස්වනලද්දී එතැන කදඹපුෂ්ප ගුල්පයෙහි
සැඟවී හූනනා අතින් මාගීගය වසාගෙණ මූත්‍රකරණ සාම
88 ණේරකෙනෙක් දුටුවාය. රජතෙමේ ඒ බිසවුන් බස්අසා
89 මහසෑයට උතුරුඇග උස්බිම්ඇති ගල්හෙබකඩනම් සෑයද
විහාරයක්ද එහි කරවීය.

ඒ සතයොධයන් අතුරෙන් උත්තිය නම් තැනැත්තෝ
90 නුවරට දකුණුදිගින් දක්ෂිණ නම් විහාරයක් කරවීය. මූලව
91 තෙමේද එහිම විහාරයක් කරවීය. මූළ නම්වූ ඇමැති
තෙමේද විහාරයක් කරවීය. එහෙයින් ඒ විහාරයද එම

නම් ඇතිවිය. සාලිය නම් ඇමැතිතෙමේ සාලියාරාමය කර
92 වීය. පබ්බත නම් ඇමැතිතෙමේ පබ්බතාරාමය කරවීය.
තිස්සාමාත්‍යතෙමේ තිස්සාරාමය කරවීය.

93 රම්‍යවූ විහාරයන් කොට නිමවා ඒ ඇමැතියෝ තිස්ස
තෙරුන්වෙත එළඹ "ඔබවහන්සේලාගේ උපකාර සාමා
ර්ථ්‍යයෙන් අපවිසින් කරවනලද්දවූ විහාරයන් ඔබවහන්
94 සේලාට දෙමුය" යි කියා දුන්නෝය. ස්ථවිරතෙමේ හැමතන්
හිම සුදුසුපරිද්දෙන් ඒ ඒ භික්ෂූන් වැස්වූසේක.

95 ඇමතියෝතුමූ ශ්‍රමණසාරූප්‍ය නානාප්‍රකාර පරිෂ්කාර
යන් සඞ්ඝයාට දුන්නෝය.——රජතෙමේ සියවෙහෙර වසන්
96 නවුන් නොඅඩු සිවුපසයෙන් උපස්ථාන කෙළේය. එහෙ
සින් ඒ භික්ෂූහු බොහෝ වූහ.——මහාතිස්සයයි ප්‍රසිද්ධවූ
97 කුලයන්හා සංසර්ගඇති ඒ තෙරහු කුලසංසර්ග දෝෂය
කරණකොටගෙණ සඞ්ඝතෙමේ මේ මහවෙහෙරින් නෙර
98 පීය. ඒ තෙරුන් ශිෂ්‍යවූ බහලමස්සු තිස්සස්ථවිරයයි ප්‍රසිද්ධවූ
99 තැනැත්තේ කිපියේ අභයගිරියට ගොස් පක්ෂය උසුලන්
නේ හෝ පක්ෂපාතව එහි විසීය. එතැන් පටන් ඒ භික්ෂූහු
100 මහාවිහාරයට නොඅවූය. මෙසේ ඒ භික්ෂූහු ථෙරවාදයෙන්
වෙන්ව දෙපරිද්දකින් බිඳුනාහ. දිව්වැසි ඒ මහාඅභය
101 ගිරිභික්ෂූන් වඩන්ට ඒ වළගම්බා රජතෙමේ ප්‍රාපති නම්
102 වැටුප් දෙවීය. "මෙසේ නවකම් කිරීම (සුව) වන්නේය" යි
103 සිතා පන්තිබැඳි විහාරහා පිරිවෙන් කරවීය.——ත්‍රිපිටක
පාළියද එහි ඒ අර්ථකථාවද මහා ප්‍රඥාඇති පූර්වක භික්ෂූහු
මුඛපාඨයෙන් ගෙණආවෝය එකල් වැසිවූ භික්ෂූහු සත්ව
104 යන්ගේ පරිහාණි දැක, ධර්මයාගේ චිරස්ථිති පිණිස පොත්හි
ලියවූහ.——වට්ටගාමනි අභය රජතෙමේ මෙසේ දො
ළොස් හවුරුද්දක්ද ආදියෙහි පස්මසක්ද රජය කරවී.

105 මෙසේ ප්‍රාඥ තැනැත්තෙන් ඓශ්වර්‍ය්‍ය ලැබගෙණ පර
වැඩහා තමාවැඩ කෙරෙයි; සම්පත්හි ලොල්වූ මඳබුද්ධි
තැනැත්තේ මහත් සම්පත් ලැබත් ආත්මාර්ථ පරාර්ථයක්
නොකෙරෙයි.

මෙතෙකින් හුදීජනයා පහන්සංවෙග පිණිස කළ මහ
වස දසරාජක නම්වූ තෙතිස්වන අදියර නිමි.

# 34 වෙනි පරිච්ඡේදය.

1 ඒ රජහු ඇවෑමෙන් මහාසිළු මහතිස්රජ තුදුස් හැවි
2 රිදක් දැහැමෙන් සෙමෙන් රජය කෙළේය. ඒ රජතෙමේ
"සියතින් කළ(වතින්)දෙනදන මහත් ඵලය"යි අසා, රජවූ
3 පළමු වස්හිම අප්‍රසිඬ වේසඇතිව (පසල්දනව්) ගොස් ඇල්
ගොයම් කපා එයින් ලත් කුලියෙන් මහාසුම්ම තෙරුන්ට
4 පිඬපාතය දුන්නේය. නැවත ක්ෂත්‍රිය කුලඇති භූමීශ්වර ඒ
රජතෙමේම සොණ්ණිගිරියෙහි තුන්හවුරුද්දක් උක්යන උසුලා
5 එයින් කුලි උක්සකුරු ලැබ ඒ උක්සකුරු ගෙන්වාගෙණ
6 නුවරට අවුත් භික්ෂු සඞ්ඝයාට මහදන් දුනෙන්ය. භික්ෂූන් තිස්
7 දහසකටත් එසේම දෙළොස්දහසක් භික්ෂුණීන්ටත් වස්ත්‍ර
දන් දුන්නේය. මිහිපල්තෙමේ මොනවට පිහිටි විහාරයක්
8 කරවා භික්ෂූන් සැටදහසකට තුන්සිවුරු දෙවීය. භික්ෂුණීන්
9 තිස්දහසකටද දෙවීය. ඒ රජතෙමේ මණ්ඩවාපි විහාරයද
අබාගලද වගුපටගලද දීඝාබාගලද වාලගම් වෙහෙරද
10 කරවීය. මෙසේ ඒ රජතෙමේ සැදැහැයෙන් නොයෙක්
පරිද්දෙන් පින් කොට තුදුස්වස් ඇවෑමෙන් දෙව්ලෝ
ගියේය.

11 වළගම්බා රජු පිත් චොරනාගයයි ප්‍රසිඬවූ කුමරතෙමේ
12 මාසිළු රජු දවස්හි දමරිකව හැසුරුණේය. මාසිළුරජු කළු
රියකළ කල අවුද්න් රජය කරවී දුෂ්ටබුඞිඇති ඒතෙමේ
13 තමන් දමරිකකල යම් වෙහෙරෙක නිවාස නොලත්තේ
නම් ඒ අටළොස් විහාරයන් විධ්වංසනය කරවී. ඒ චොර
14 නාගතෙමේ දෙළොස් හවුරුද්දක් රාජ්‍යය කරවීය. ඒ
පාපිෂ්ඨතෙම ලොකාන්තරික නිරයෙහි උපනි.

15 ඒ රජු ඇවෑමෙන් මාසිළුරජු පිත්වූ තිස්සයයි ප්‍රසිඬ රජ
තෙමේ තුන්හවුරුද්දක්ම රජය කරවී. චොරනාග රජු
16 බිසව් විසම අදහස්ඇති අනුලාදේවී බලතා කෙරෙහි
ඇළුනු සිත්ඇත්තී විස දී විසමක්‍රියා ඇති (චොරනාගරජු)
17 මැරවීය. එම බලතා කෙරෙහි ඇළුනු සිත්ඇති අනුලා
නොමෝම තිස්සරජු විසයෙන් මරවා බලතාට රජය දුන්
18 නිය. ඒ සිව නම්වූ දෙටු දොරටුපල් බලත්තෙමේ අනුලාව
මහේසිකා කොට දෙමසක් අධික හවුරුද්දක් ඒ නුවර
රජය කරවීය. අනුලා නොමෝම වටුක දෙමළා කෙරෙහි
19 ඇළුනී විසයෙන් සිවයාමරා වටුකයා කෙරෙහි රාජ්‍යය පැමි
20 නවී. නුවරවඩු ඒ වටුකදෙමළ වනාහි අනුලාව මහේසිකා
කොටගෙණ දෙමසක් අධික හව්රුද්දක් නුවර රජය කර

21 විය. අනුළා තොමෝම එහි පැමිනි දරකැටියා දැක උහු
කෙරෙහි ඇළුනු සිත්ඇතැ විසයෙන් වටුකයා මරා ඔහුට
22 රජය පැමිනවී. ඒ දරකැටිතිස් තෙමේ අනුළාව මහේසිකා
කොට ගෙණ එක්මසක් අධික හවුරුද්දක් නුවර රජය කර
23 විය. ඒ තෙමේ මහමෙවුනා උයන්හි පොකුණක් කරවී.
එම අනුළා තොමෝ නීලිය නම් දෙමළ පෙරවි බමුණු
24 කෙරෙහි රාගයෙන් ඇළුනා උහුහා සහවාස කැමැතිව ඒ
දරකැටිතිස් රජු විසදී මරවා නීලිය බමුණාට රජය දුන්
25 නාය. ඒ නීලිය බමුණුතෙමේද ඇය මහේසිකා කොට
26 ගෙණ නිතර ඇය විසින් උපස්ථාන ලදුයේ, මේ අනුරාපුර
යෙහි සමසක් රජය කරවී. රුචිව පරිදෙන් දෙතිස් බල
27 තුන් සමග වසනු කැමැති එම අනුළා බිසව් විෂයෙන් ඒ
නීලියරජු මරවා තොමෝම සාරමසක් රජය කරවී.

28 මහාචූලික රජහු දෙවනපිත් මකලන්තිස් නම් ඒතෙමේ
29 අනුළාදේවියට භයව පලාගොස් පැවිදිව ගිඳ සුදුසුකල්හි
30 ලත්බල ඇතොත් මෙහි අවුදින් දුෂ්ට මනස්ඇති ඒ අනුළා
රාජිනිය මරවා දෙවිසි හවුරුද්දක් රජය කරවිය. රජ
31 තෙමේ සැගිරියෙහි මහපොහෝගෙය කෙළේය. ඒ ගෙට
ඉදිරියෙහි ගල්සැයද බැඳවී. ඒ තෙමේ එම සැගිරිගල
32 බොධිවෘක්ෂයද ඉඳුවී. අතුරුගඟ තේලගාම විහාරයද
33 කරවී. එහිම වණ්ණක නම් මහමොවු ඇලද, ආමුදුග්ග මහ
වැවද, භයෝලූපපලනම් වැවද නුවර සත්රියන්උස් පව්
34 රහා එසේම පරිඛාවද (කරවිය). මහාවසතුයෙහි නොසන්
හුන් අනුළාව ආදහනකරවා එතැනින් මදක් තොරකොට
35 මහාවස්තුව කරවීය. නුවරම පද්මසරවන උයනද කර
විය———මේ රජු මවුබිසව් දනනයන් ධොවනයකොට බුදු
36 සසුන්හි පැවිදිවුවාය. කුලසමීප ගේතැන්හි මවු මෙහෙ
ණින්නට මෙහෙණවරක් දනනගේහ නමින් කරවිය.
එහෙයින් ඒ දනනධොවන මෙහෙණවරයයි ප්‍රසිඩවිය.

37 ඒ මකලන්තිස් රජු ඇවෑමෙන් උහුපිත් භාතිකාභය නම්
38 ක්ෂත්‍රියතෙමේ අටවිසි හවුරුද්දක් රජය කරවිය. මහදැළියා
තිස් රජු සහොදර බැවින් ධාර්මික මිහිපල්තෙමේ භාතිය
39 රජැයි ලක්දිව්හි ප්‍රකටවීය. ඒතෙමේ මේ ලොහොපහය
නවකම්ද කරවිය. මහසැයෙහි පිළිකඩ දෙකද ථූපාරාම
40 යෙහි පොහෝගෙයද කරවීය. තමාට උපදනා අය විසඳූ
41 නුවර යොදනක් මානය සිසාරා දැසමන් සීනිඳුමල් බොහෝ
කොට ඇතිකරවා නරශ්‍රෙෂ්ඨතෙමේ පාපිළිකඩ පටන්
42 ධුරචඡත්‍රයතෙක් සතරඟුල් බොල් ගඳකලලින් මහසෑය

ආලේප කරවා එහි මනාකොට නැටියෙන් මල්වඩු සෑය
43 මල්ගුළාවක්සේ කරවීය. නැවතද දෑගුල් බොල් මනෝ
සිලා කලලින් සෑය ආලේප කරවා පෙර සෙසින්ම මල්ඇවි
44 නිම කරවිය ඉක්බිතිද් හිණිහිස පටන් ධුරවජ්ත්‍රය තෙක්ම
45 මල් රාසිය විසුරුවා ඒ මල්රාසින් සෑය වැසීය. අබාවැවින්
යන්ත්‍රයෙන් දිය නගාගෙණ ඒ දියෙන් සෑදූඇති ඒ රජ සෑය
තෙමමින් ජලපූජාව කරවීය.

46 ආලේප කටයුතු සුණු සියක්ගැලක් මුතෙතන් තලතෙල්
47 හා මනාකොට හනවා සුණුකම් කරවිය. පබළු දැලක්
කරවා ඒ සෑයෙහි බඟා රියසක් පමණ රන්පියුම් (තනවා)
48 සනධියෙහි සනධියෙහි අවුළුවා එතනින් බිමතෙක්ම මුතු
වැල් එල්වා පියුම්දු එහි එල්වා මහසෑය පිදීය ඒ රජ
49 තෙමේ දාගැබ්හි රහතුන් පිරිත් බණනා හඬඅසා "මම
එය නොදැක නැගී නොසිටිනෙනමි" යි නිශ්චය කරණ
50 ලදුයේ නැගෙණහිරි ගල්ටැඹමුල නිරාහාරව හොනෙත්ය.
තෙරුන්වහන්සේලා දෙරක් මවා ඒ රජහු දාගැප්තුසට
51 ගෙණගියහ. ඒ මිහිපල් දාගැප් චෛත්‍යයසී සියලල දැක
බැහැර නික්මුනේ එබඳුවූම පෙතැලි රුවින් පිදීය. මධු
52 හාඬයෙන්ද ගන්ධ පිඬයෙන්ද; (පියුම් උපුල් කලප් එබ්බූ
53 පූන්) කලසින්ද; ගන්ධ රසයෙන්ද; අඳුන් හිරියල්හා එසේම
මනෙ සිලායෙන්ද; සෑමළුවෙහි මනෝසිලා බඟා ගොප්මස
පමණ සිටිකල (පූජාමල්) වස්වා ඉන්පසු අතුරු සිඳුරු
54 නැතිව විනාසකළ උපුල් මලින්ද; මුළු සෑමළුව ගඳකල
ලින් පුරා එහි සිතියම් පැඳුරු සිදුරෙහි අවුනනලද උපුල්
55 මලින්ද; එසේම සෑමළුව සොරෙවු අවුරා පිරවූ ගිතෙල්හි
නොයෙක් පටපිළි වැටියෙන් දැල්වූ පහනින්ද; එසේම මී
56 තෙල්හිද තලතෙල්හිද එපරිද්දෙන්ම පටවැටියෙන් දල්
වනලද බොහෝවූ පහනින්ද; (පූජාකෙළේයි)—ක්ෂත්‍රිය
57 තෙමේ කීපරිදිවූ මේදෙසින් වෙන් වෙන්ව සත් සත්වර
බැගින් දාගැප් පූජාව කෙළේය.

58 අවුරුදුපතා නියමකොට කරවනලද උතුම්වූ සුණුපිරි
යම් මඞ්ගලය, එසේම ජයමහාබොධිය බොධිස්නානපූජාය,
59 අටවිස්සක් මහ වෙසක්පූජාය, නොමහත්කොට සුවාසූ දහ
60 සක් පූජාය, නානාවිධවූ නැට්වූවන් විසින් කරණලද නැටුම්
හා නානාප්‍රකාර පඤ්චාඞ්ග තූර්‍යනාදය; යන පූජාවගීගය
ශ්‍රද්ධාවෙන් මෙහෙයනලද රජතෙමේ මහසෑයෙහි පැවැත්
61 වී. දවස තුන්යලක් බුඩොපස්ථානයට ආයේය, ඒ තෙමේම
62 නියතකොට දෙවරක් මල්පූජයෙහි බෙර හැසිරවී. පෙළ

හර දානයද පවාරණ දානයද නියම කොට තෙල් පැනි වස්ත්‍රාදිය ශ්‍රමණසාරූප්‍ය පරිෂ්කාරය සඞ්ඝයාට බොහෝ
63 කොට දුනෙන්ය. ක්ෂත්‍රියතෙමේ සෑයෙහි පිරියම් පිණිස ඒ සෑයට ක්ෂෙත්‍රයන්ද පූජාකෙළේය. තවද ඒ භූමිශ්වර
64 තෙමේ සෑගිරි වෙහෙර භික්ෂූන් දහසකට හැමකල සලාක
65 බතුත් දෙව්ය. චිත්‍රප්‍රාසාද මණිප්‍රාසාද මුවෙලප්‍රාසාද නම් උපස්ථාන කරණ තැන්හිද; එසේම පද්මසර ප්‍රාසාදය
66 මනොරම්‍ය ඡත්‍රප්‍රාසාදය යන පස්තැන්හි හැමකල ධර්ම යෙහි ගෞරවඇති ඒ තෙමේ ග්‍රන්ථධුරයෙහි යුක්ත භික්ෂූන්
67 ප්‍රත්‍යයෙන් උපස්ථානකෙළේය. ඒ භාතිකාභය මිහිපල් තෙමේ පූරාණ රජුන් විසින් නියමකරණලදූවූ යම්කිසි සසුන් පිළිබඳ දෙයෙක් වීනම් ඒ සියලු පින්කම් කෙළේයි.

68 ඒ භාතියරජු ඇවෑමෙන් උහුමල් මහදැළියා මහානාග
69 තෙමේ නන්පින්කම් පරමාර්ථකොට ඇත්තේ දොළොස්
70 හවුරුදක්ම, රජය කරවිය. මහසෑ මළුවෙහි ගිඤ්ජක පාෂාණයන් ඇතිරවීය, මළුව මහත කරවා වැලිමළු සීමාවද
71 කරවිය. ලක්දිව සියලු විහාරයන්හි දහම් අසුන් කරවිය.
72 රජතෙමේ අඹතලා මහසෑය කරවීය. ගෙපල බිඳවැටෙන කල බුදුගුණ මෙනෙහිකොටගෙණ තෙමේ එහි හෙව ස්වකීය ප්‍රාණය පරිත්‍යාගකොට එහි සෑභූමිය නවත්වා සෑය
73 පිහිටුවා, සතර දොරටුයෙහි දක්ෂ සිල්පීන් විසින් මොනවට බෙදනලද නන්රුවනින් හෙබියාවූ රුවන්ඇගෑ සතරක්
74 තැබ්බවිය. නන්රුවනින් කළ සැට්ටයක් සෑයෙහි බහා පලඳවා, ඒ සැට්ටයෙහි රන්බුබුළුහා එලෙන මුතුදැල්ද තැබ්බවී.

75 සෑගිරිය අවට යොදනක් මානය සරසවා, හාත්පස මනා
76 වීථිඇති සතරදොරටුවක් යොදවා, වීථි දෑලයෙහි සල්පිල්
77 අතුට කොඩිඇගෑ තොරණින් තන්හි තන්හි සරසවා, හාත් පසින් පහන්මාලා ආලෝක කරවා, නැට්ටුවන්ලවා නැටුම්
78 හා ගීතවාදිතයන්ද කරවීය—කොලොම්හොය පටන් සෑගිරියතෙක් මාර්ගයෙහි දෙව් පසින් යනුපිණිස, ඇති
79 රිලි ඇතිරවීමද කරවීය. නැටුම් ගීවැයුම් සහිත නෘත්‍ය
80 යද, එහි කරවිය. නුවර සතරදොර මහදනුත් දෙවීය. අතුරු නැති පහන්මාලාවන් මුළුලක්දිවහිද, හාත්පස යොදනක්
81 මානයෙහි මුහුදු දියෙහිද පැවැත්වීය. ඒ රජහු විසින් සෑ පෙළහරෙහි කරවන ලදූවූ මනාවූ උදාරවූ ඒ පූජාතොම මෙහි ගිරිභඩ මහාපූජායයි කියනුලැබෙ.

82 රජතෙමේ ඒ පූජාසමාගමයෙහි කැටිවූ භික්ෂූන්ට අට
83 තැනෙක දන් තබ්බවා, එහි තබ්බවනලද අට රන්බෙරක්
84 ගස්වා, සුවිසිදහසකට මහදන් පැවැත්විය. ෂට්ප්‍රකාර
සිවුරු දුනෙන්ය. අන්‍ද බන්ධනාදියෙන් බඳනාලද්දවුන්ගේ
මුක්තියද කරවීය. සතර දොරටුයෙහි කරනැවැමියන් ලවා
85 හැමකල කරකම් කරවිය. මේ රජ පෙරරජුන් විසින් තබන
ලද්දවූද, එසේම බෑයාවිසින් තබනලද්දවූද, පින්කම්
86 සියල්ල නොපිරිහෙලා කරවීය. නමාය බිසවිය කුමරුන්
දෙනනාය මගුලැත්ය මගුලස්ය සඞ්ඝයා විසින් වලකනු
87 ලබනෙන්ම සඞ්ඝයාට දුනෙන්ය. ඒ තෙමේ භික්ෂු සඞ්ඝයාට
සලක්ෂයක් අගනාවූද භික්ෂුණී සඞ්ඝයාට ලක්ෂයක් අගනා
88 වූද (පිරිකර) දුනෙන්ය. විධානයෙහි පණ්ඩිතවූ රජතෙමේ
නාන්වැදූරුම් සරුප්බඩු ඇ, තමනුත් සෙසසනුත් සඞ්ඝයා
89 ගෙන් මුදාගත්තේය. ජනාධිනාථතෙමේ (රුහුණු ජනපද
යෙහි) කාලායන කණ්ණිකා නම් තැන මිණිනාපව් නම්
විහාරයක්ද, එසේම කලනු නම් විහාරයක්ද කරවිය. කුම්භක්
90 බන්ධන නම් හෝ තොර මුහුදුවිහාරයද, රුහුණම හුවාව
කණ්ණික නම් තැන චූලනාග නම් විහාරයද (කරවිය.)
91 ක්ෂත්‍රිය කුලඇති මිහිපල්ලෙමේ ගල්අවසින්හි තමාවිසින්
92 විහාරයක් කරවූකල පැන් එලවූ හෙරෙණ කෙනෙකුගේ
93 ආචාරයෙහි පැහැද විහාරය සිසාරා අටයොදනක් ඒ විහාර
යට සාඞ්ඝිකකොට දුනෙන්ය—ඒ ක්ෂත්‍රිය තෙමේ පඩුවැ
වෙහෙරද හෙරණ කෙනෙකුට තුටුවූයේ, විහාරයද එසේම
සඞ්ඝයා කෙරෙහි භොගයද දෙවීය.
94 මෙසේ මනානැණැත්තෝ අනල්ප සම්පත්ලැබ මද ප්‍රමාද
දෙකින් තොරවූවෝ, එසේම කාම ආසාවෙන්ද තොරව
ජනයාට දුක්නොකොට පින්කම්හි ඇලුම්ඇත්තාහු සුප
හන්වූවාහු මහත්වූ නානා පින්කම් කරන්නාහ.

මෙතෙකින් හුදීජනයා පහන්සංවෙග පිණිස කළ මහ
වස ඒකාදසරාජදීපන නම් සූතිස්වන අදියර නිමි.

---

# 35 වෙනි පරිච්ඡෙදය.

1 මහදැළියාරජු ඇවෑමෙන් එම රජු පිත් ආමණ්ඩගාමනි
2 අභයරජ නවහවුරුදු අටමසක් රජය කරවිය. මනරම් මහ
සෑයෙහි ඡත්‍රය මතුයෙහි ඡත්‍රයක් කරවීය. එහිම පාපිළි

3 කඩහා මුදුන් පිළිකඩද කරවිය. එසේම ලෝවාමහ පායෙ
හිත් ථූපාරාම පොහෝ ගෙහිත් ඇතුල් මිදුලහා ඇතුළ
4 ආලින්දයද කරවිය. දෙතැනම මනා රුවන්මඩුද කරවිය.
නරශ්‍රෙෂ්ඨතෙමේ රිදීලෙන් විහාරයද කරවිය. පුණ්‍යකරණ
5 යෙහි දක්ෂ ඒ තෙමේ මාගම්හි දකුණුදිග වැව කරවා,
දක්ෂිණ විහාරයට දුනෙන්ය. ජනශ්‍රෙෂ්ඨතෙමේ ලක්දිව
6 මුළුල්ලෙහි මාඝාතය හෝ සතුන් නොමරාවයි යන ව්‍යව
7 ස්ථාව කරවිය. ඒ ආමණ්ඩ රජ ඵල උපදනා සියලු ලතාවන්
ඒ ඒ තන්හි රෝපණය කරවා (ඵල එකෙකාට) මස්කොමඩු
නම් දූනයක් පාත්‍රය පුරවා වස්ත්‍ර සුඹුළුවක් කොට අතිශය
8 පහන් සිතින් දෙවිය. (යම් හෙයකින්) පාත්‍රයෙහි පුරවා
(දන්දුන්නේද) එහෙයින් ලෝවැසෝ ආමණ්ඩගාමණියයි ඔහු
දත්තු.

9 ඔහුමල් කණීජාණුතිස්ස කුමර බෑයා මරා, තුන්හවුරුද්
10 දක් නුවර රජය කරවිය. ඒ රජ සෑගිරි පොහෝගෙහි අධි
කරණය විනිශ්චය කෙළේය. (එසින් කිපි) රාජපරාධ කර්ම
11 යෙහි හෙවත් රජු මරනාමෝයයි සම්මතකරගත් දුස්සීල
සැටක් පමණ භික්ෂූන් රජතෙමේ වරද ගිවිස්වා අල්වා
12 ගෙණ සෑගිරියෙහි කණීර නම් ප්‍රාග්භාරයෙහි දැම්මවි—
කණීරජාණු රජු ඇවෑමෙන් ආමණ්ඩගාමනී පිත් චූළාභය
13 කුමර එක්හවුරුද්දක් රජය කරවිය. ඒ මහිපල්තෙමේ නුව
රින් දකුණුදිග ගෝණක නම් හෝතෙර සුළුගල් වෙහෙර
14 කරවිය. චූලාභය රජු ඇවෑමෙන් ඒ රජු නැගෙණිවූ
ආමණ්ඩරජ දූවූ සීවලී කුමරිය සාරමසක් රජය කරවි.

15 ආමණ්ඩරජු බෑනාතෙමේ ඒ සීවලී කුමරිය ඉවතලා ඉළ
16 නාගයයි යන නමින් නුවර සේසත් නැගීය. ඒ රජු රජ
පැමිනි හවුරුදුයෙහි තිසාවැව් ගියකල බොහෝ ලම්භකර්ණ
17 යෝ රජු හැර නුවරට අවුය. රජතෙමේ ඔවුන් එහි නො
දැක කිපියේ, වැව්පසෙක මහසෑයක් උන්ලවා, මඩවමින්
18 තෙමේම කරවිය. සැඩොලුන් ඔවුන් විචාරනාන්කොට
තැබ්බවි.

19 එසින් කිපි ලම්භකර්ණයෝ සියලල එක්ව, ඒ රජු අල්වා
ගෙණ සියගෙහිම සිරකොට තබා, තුමූම රජය විචාළෝය.
20 එකල රජහු දේවිතොමෝ සියපිත් සඳමුහුනුසිව නම් ලදරු
කුමරහු සරසවා කිරිමවුන් අතෙහි තබා මගුලෑතු වෙතට
21 හසුන්දී යැවූවාය. ඒ කිරිමවුහු කුමරු එහි ගෙණගොස්
බිසව් පණිවුඩ සියලල මගුලෑතුට කිවූය. "මේ තෙමේ
22 තාගේ ස්වාමීන් පිත්ය, ස්වාමීතෙමේ සිරගෙහි සිටියේය, මේ

කුමරහු සතුරන් විසින් මැරීමට වඩා තාවිසින් මැරීම උතුම
23 එහෙයින් මොහු මරව, මේ දේවීන්ගේ බසැ" යි කියා ඇතු
24 පාමුල්හි ඒ කුමරහු හෙවූහ. ඒ ඇත්තෙමේ දුක්ඛයේ හඬා
ඇත්හල බිඳගෙණ මහාවස්තුවට හෝ රජගෙවූයනට
25 වැද උත්සාහයෙන් දොර බිඳහෙලා, රජහු හුන්තැන්හි
දොර උපුටා, ඒ රජු පිට හිඳුවාගෙණ, මහතොටට එළඹි
26 යේය. එහිදී ඇත්තෙමේ රජහු නැව්නගා, තෙමේ බටහිරි
මුහුදුතෙරින් මලයරටට නැංගේය.

27 ඒ රජතෙමේ තුන්හවුරුද්දක් පරතෙර වැස නැවින් බල
සෙන් ගෙණ රුහුණුරටට පැමිනියේය. මිහිපල් තෙමේ
28 හකුරුහෙබ නම් තොට ගොඩබැස ඒ රුහුණු ජනපදයෙහි
29 මහබලසෙන් කැටිකෙළේය. රජහුගේ යටතී මගුලැත්
තෙමේ ඒ දකුණු මලයරටින් රජහු සාටයුතු කරණු පිණිස
30 රුහුණටම එළඹියේය. ඒ ජනපදයෙහි තුලාධාර පව්විත
විහාරවාසී ජාතකභාණී මහාපදුම නම් මහතෙරහු වෙත
31 කපිජාතකය අසා බෝසතුන් කෙරෙහි ප්‍රසන්නවූ ඒ රජ
නාගමහා විහාරය බන්ධනමුක්ත දුතු සියයක් කොට කර
32 විය. සැයද තුබූපරිදෙන් වැඩූයේය. තිසාවැවද එසේම
දුරතිස්වැවද කරවීය.

33 ඒ රජ බලසෙන් ගෙණ යුදපිණිස නික්මියේය. ඒ අසා
34 ලම්බකර්ණයෝද යුදපිණිස රැස්වූය. කබල්කඩදොර හකර
35 පිටි කෙත උතුන් පෙළන දෙපක්ෂයාගේ යුඩය පැවැත්
තේය. නැව්හිදී තලානන දෙහ ඇතිබැවින් රජහුගේ
මිනිස්සු දුර්වල වෙති, එහෙයින් ඒ රජතෙමේම (මම ඉළ
36 නාග රජයෙමි) නාම අස්වා යුඩයට වන්නේය. එයින් භයවූ
ලම්බකර්ණයෝ මුනින් ඔත්හ ඒ තෙමේ ඔවුන්ගේ හිස් රථ
37 නාභියතෙක් සිඳ කැටිකෙළේය, තුන්යලක් මෙසේ කළ
කල මිහිපල්තෙමේ කරුණා උපදවා "නොමරා ජීවග්‍රාහ
යෙන් ගණිව්ය" යි කියේය.

38 ඉක්බිති දිනූ සඞ්ග්‍රාමඇති මිහිපල් තෙමේ නුවරට අවුත්,
39 ජේසන් නාගා තිසාවැව කෙළියට ගියේය. දියකෙළියෙන්
ගොඩනැගී මොනවට හැඳපැලඳියේ තම ශ්‍රීසම්පත් දැක
40 ඊට අන්තරාය කරවූ ලම්බකර්ණයන් මෙනෙහිකොට තිපියේ
රථයෙහි යෙදූයේය. රථ පිළිවලින් ඔවුන්ට පෙරතුව
41 නුවරට වන්නේය. රජගෙවූයන් එළිපත සිට ඒ රජතෙමේ
"පින්වත්නි මොවුන්ගේ හිස් මේ එළිපතදීම සිඳිව්ය" යි
අණකෙළේය. ඉක්බිති මැතියන් විසින් "රථ ශ්‍රෙෂ්ඨයා
42 නෙනි මොව්හු තොපගේ රථයෙහි යොදනලදුවූ ගොන්
43 නුය, එහෙයින් මූන්ගේ අංහා කුර සිඳුව" යි මෙසේ හගවන

ලද රජතෙමේ ශීර්ෂච්ඡේදය නොකොට නාසයත් පය
44 මහපට ඇඟිල්ලත් කැපපවී. රජතෙමේ ඇතුව්සූ ජනපදය
ඇතුට දුනේය. එහෙයින් නමින් හස්තිභොග ජනපද
45 යයිවී. මෙසේ ක්‍ෂත්‍රිය ගොත්‍රඇති ඉළනාග මහිපල්තෙමේ
අනුරාධ පුරයෙහි නොහඩු සහවුරුද්දක් මුළුල්ලෙහි රජය
කරවී.

46 ඉළනා රජු ඇවෑමෙන් උහුපිත් චන්‍ද්‍රමුඛසිව රජ අට්ටවුරු
47 රුදු සත්මසක් රජය කරවී. ඒ මහිපල් මණිකාරගම වැවක්
48 කරවා ඉසුරුමුනි විහාරයට පිදීය. දෙමළ දේවියයි ප්‍රසිද්ධ
ඒ රජහු බිසවද ඒ ගම්හි තමහට උපදනා ලාභය එම
වෙහෙරට පිදූවා.

49 ඒ සඳමුහුනු රජු තිසාවැව් කෙළියෙහිදී මරා, යසලාලක
50 තිස්සයයි ප්‍රසිද්ධ උහුම්ල් තෙමේ රජව ලඞ්කා පෘථිවියට
මුහුනු බඳු යහපත් සිත්කළු අනුරාධපූරෙහි සත්හවුරුදු අට
51 මසක් රජය කරවීය. දත්ත නම් දොරපල් පිත් දොරපල්
රජහුගේ රූපසාදෘශ්‍යයෙන් ශුභනම් ඇතෙයාවී. යසලාලක
52 රජ සිනා පිණිස ඒ ශුභ නම් බලතා රාජාභරණයෙන් සරසා
පයඞ්කයෙහි හිඳුවා, බලතාගේ හිස්වෙළුම සිය හිස ලා
53 ගෙණ අතින් යෂ්ටිය ගෙණ තෙමේ දොරවෙත සිටියේය.
අස්නෙහි උන් ඔහුට ඇමතියන් වඳනා කල්හි රජතෙමේ
54 සිනාසෙයි. ඒ තෙමේ අතරතුර මෙසේ කෙරෙයි.

55 ඒ බලත් එක්දිනෙක සිනැසෙන රජහු (බලා) "මේ
56 බලත් කවරහෙයින් මාහමුයෙහි සිනාසේදැ"යි රජු මරවා ඒ
ශුභ නම් බලත් තෙමේ ශුභ රජයි ප්‍රසිද්ධවූයේ සහවුරුද්දක්
57 මෙහි රජය කරවී. ශුභරජ ශුභාවිහාර දෙක්හි ශුභරාජ
58 නම් ඇත්තාවූම සිත්කළු පිරිවෙන් දෙකක් කරවී. ඒසේම
උරුවෙල් සමීපයෙහි වල්ලි විහාරයද නැගෙණහිර එක
ව්‍යාර විහාරයද ගංතෙර නන්දිග්‍රාම විහාරයද කරවී.

59 ලම්බකර්ණ ගොත්‍රයෙහි ජාතවූ උතුරුදිග වැසි වසභ නම්
60 එක් (මානවකයෙක්) මයිල් සෙනෙවියහට උපස්ථාන කෙ
ළේය. "වසභ නම් ඇතියෙක් රජවනේය" යි ශ්‍රැතියෙන්,
61 රජතෙමේ හැමකල්හි ලක්දිව වසභ නම්ඇති සියල්ලන්
මරවයි; ඒ සෙනෙවි "රජහට මේ වසභ නම් තැනැත්තාහු
දෙනෙනමුය" යි බිරින්දහා මන්ත්‍රණය කොට, උදෑසන රජ
62 ගෙට ගියේය. (සෙනෙවි බිරින්ද) ලාහෙලා උහුකැටිව
යනනාවූ වසභයා අතට උහු මොනවට රක්නා පිණිස සුණු
63 නැති බුලත් දුන්නේය. රජ ගෙදොරදී චූර්ණවර්ජිත බුලත්
64 බලා සෙනෙවිතෙමේ සුණු පිණිස ඔහු යැවිය. සෙනෙවියා

65 බිරින්ද සුණු පිණිස ගිය වසභයාට, රහස කියා දහසකුත්දී
උහු පැලවීය. ඒ වසභ වනාහි මහාවිහාරස්ථානයට ගොස්
66 එහි තෙරුන් විසින් කිරින් බතින් වතින් කරණලද සඞ්ග්‍රහ
ඇතෙත්, ඉන් ඔබෙබහි රජබව පිණිස නිශ්චය කරණ
ලද්දාවූ (ශාස්ත්‍ර දනනා) කුෂ්ඨරෝගාතුරයා වචනය අසා ප්‍ර
67 සන්නවූයේ "දුමරික වනෙනමැ"යි නිශ්චය කරණ ලදුයේ,
සමණ් මිනිසුන් ලැබ ඉන් මතෙත්හි ගම්පැහැරීම් කෙරෙ
68 මින් රුහුණු ගොස් කබල්පුරටින් ක්‍රමයෙන් රට ගණිමින්
සමස්ත බලවාහන ඇතොත් දැහැවුරුද්දකින් නුවරවෙත
69 අවුත්, ශුභරජු රජගේ මිදුලෙහිදී මරා, මහත් බලඇති
ඒ වසභ රජතෙමේ නුවර සේසත් නැගීය. මසිල්තෙමේද
යුඩයෙහි හිනි.

70 පූර්වොපකාරීවූ මෙත්තා නම්වූ මසිල් බිරින්ද ඒ වසභරජ
තමහට අගමෙහෙසුන් කෙළේයි.——ඒ රජ තමන් ආයු
71 ප්‍රමාණය හෝරා පාඨකයා විචාළේය. ඒ තෙමේද දොළොස්
72 හවුරුද්දෙකැයි රහසම ඔහුට කීයේය. රහස් රක්නා පිණිස
73 දහසක් ඔහුට දෙවා, ඒ තෙමේ සඞ්ඝයා රැස්කරවා, වැඳ
විචාරමින් "වහන්ස ආයුවැඩීමට හේතු ඇත්තේද්‍ය"යි
74 විචාළේය. සඞ්ඝතෙමේ "අන්තරාය විමොක්ෂය ඇත්තේ
ය"යි කියා "නරශ්‍රෙෂ්ඨයානෙනි පෙරහන්කඩ දනයද
75 ආවාස දනයද ගිලන් වැටුප් දනයද දියයුතුය, එසේම
ජීර්ණාවාස ප්‍රතිසංස්කරණයද කටයුතුය, පන්සිල් සමාදනයද
76 කොට ඒ මනාව රැක්කයුතුය, පොහෝ දවස්හි පෙහෙවස්
සමාදනයද කටයුතුය"යි විසඳූයේය. ඒ රජ මැනවයි කියා
ගොස් ඒසියලල එසේම කෙළේය.

77 මිහිපල්තෙමේ තුන් තුන් හවුරුදු ඇවෑමෙන් ලක්දිව්හි
78 සියලු සඞ්ඝයාට තුන්සිවුරු දෙවීය. නොවැඩිය තෙරුන්
වෙත සිවුරු යවා දෙවීය. දෙතිස්තැනෙක මිහිරි කිරිබත්
79 දෙවීය. සූසැටක් තන්හි මිශ්‍රක මහදන් දෙවීය. සෑගිරි
විහාරය ථූපාරාම චෛත්‍යය මහසෑය මහබෝගේයයි යන
80 මේ සතරතන්හි දහසක් පහන් පැවැත්වීය, සිතුල්පව් විහාර
81 යෙහි මනරම් සෑ දසයක් කරවීය. තවද සියලු ලක්දිව්හි
82 ජීර්ණාවාසයන් ප්‍රතිසංස්කාර කෙළේය. ඒ තෙමේ වලලියේර
නම් මහවිහාරයෙහි තෙරුන් කෙරෙහි පැහැද මහාවලලි
83 ගොත්‍ර නම් විහාරයද කරවි. මාගම් වෙත අනුරාරාමය කර
විය. හේලිගම්හි අටදහසක් කිරිය ඒ විහාරයට දෙවීය. ඒ
84 තෙමේ තිස්වඩ්ඪමන්හි මුචේල විහාරය කරවා, ඇලිසර දිය
85 භාගය විහාරයට දෙවීය. ගලඹතොට සෑයෙහි උළුවැස්මද

කරවීය. පොහෝගෙයද කරවිය. මෙම පොහෝගෙයි
86 වැටිතෙල් පිණිස ඒ තෙමේ දහන්කිරිවැවද කරවා දුන්
87 නේය. කුඹුගල විහාරයෙහි පොහෝගෙය කරවීය. ඒ රජ
තෙමේ මෙහි ඉසුරුමුනි විහාරයෙහි පොහෝගෙයද ථූපා
88 රාමයෙහි දාගෙයද කරවී...... මහවෙහෙර බටහිරබලා
පිහිටි පිරිවෙන් පෙළද සතරැස් සාලාවද කරවීය. දීරෑ
89 තැන්ද සකසේ කෙළේය. එසේම ඒ රජතෙමේ සතර බුදු
වරයන්ගේ පිළිමයෙන් රම්‍යවූ පිළිමගෙය රම්‍යවූ මහබෝ
මළුවෙහි කරවීය.

90 ඒ රජහුගේ ප්‍රසිඬවූ බිසව් බෝමළුවෙහිම සිත්කළුවූ
91 වෘත්ත නම් සෑයක්ද සෑගෙයද කරවීය...... මිහිපල්තෙමේ
ථූපාරාම විහාරයෙහි සෑගෙය කොට නිමවා ඒ අවසන්
92 පෙළහරෙහි මහදන් දුනොත්ය. ග්‍රන්ථධූරයෙහි යුක්ත
භික්ෂූන්ට ප්‍රත්‍යයද ධර්මකථික භික්ෂූන්ට ගිතෙල්හා උක්
93 සකුරුද නුවර සතර දොරටුයෙහි දිළිඳුන්ට වැටුප්ද ගිලන්
94 භික්ෂූන්ට ගිලන් වැටුප්ද දෙවිය...... මයෙත්වැව රජ්ජුපුල්
වැව කොලබෑගම්වැව මානිකවිට්ටිවැව මාගම වැව් දෙක
95 කේහාලවැව කේලිවාසවැව ඇඹිට්ටිවැව වාතමඟනවැව අබි
වඩමන්වැව යන එකොළොස්වැවහා දොළොස් මොවූ ඇ
96 ලක්ද (රට) සුභික්ෂය පිණිස කරවී. එසේම (නගර) ආරක්‍ෂා
97 පිණිස උස්වූ නගර ප්‍රාකාරයද කරවිය. සතර දොරටුයෙහි
තොරන්ද මහවතුද කරවීය. උයන් කරවා එහි හංසයන්
98 හැරියේය. රජතෙමේ නුවර ඒ ඒ තන්හි බොහෝ පොකුණු
කරවා එහි සොරොවුවෙන් දිය යැවූයේය. හැමකල පින්
99 කම්හි ආදරඇති ඒ වසභ මිහිපල්තෙමේ මෙසේ නන්වැද
100 රුම් පින්කම්කොට නසනලද අනතරාය ඇතොත්, සූසාළිස්
හවුරුද්දක් පුරයෙහි රජකම් කෙළේය. සූසාළිසක් වෙසක්
පූජාද කරවී.

101 ඒ ශුභරජ ජීවත්වනෙන්ම වසභයාගෙන් භය ශඞ්කා
102 ඇතෙත් තමා එක්දුව උළුවඩුවාට භාරකෙළේය. තමාගේ
කම්බලයද රාජභාණ්ඩද (සලකුණු) පිණිස දුන්නේය. වසභ
103 යා විසින් ඔහු මැරූකල උළුවඩුතෙමේ ඇය භාරගෙණ,
දූ තනතුරෙහි තබා තමා ගෙහි වඩයි. ඒ ළදැරීතොම කම්
104 කරණ ඔහුට බත් එලවීය. නුවනැති ඕතොමෝ හිඟුරු
වැල් ලෑහැබෙක නිරෝධ සමාපත්තියට සමවන් (තෙර
105 කෙනෙක්) සත්වෙනි දවස දැක බත් දන්දුන්නාය. නැවත
බත් සපයා පියාට බත් එලවිය. පමාවූ කරුණු විචාරණ
106 ලද්දී එපවත් පියහට කීවාය. මේ වඩුතෙමේ තුටුවූයේ

නැවත නැවතත් තෙරුන්ට බත් දෙවීය. විස්වස්ඇති
107 ස්ථවිරතෙමේ අනාගතය දැක "කුමාරිකාවෙනි තීගේ
ඓශ්වර්ය්‍යය හටගත්කල මෙතැන මෙනෙහිකර" යි කියා කුම
රියට වදාළසේක. ස්ථවිර වනාහි එකල්ම පිරිනිව්සේක.
108 ඒ වසභ රජතෙමේ වියපැමිනි සියපිත් වක්නාතිස් කුමර
109 හට අනුරූප කන්‍යාවක් පරීක්ෂාකරවී. ස්ත්‍රීලක්ෂණ දැන්
මෙහි පණ්ඩිත මිනිස්සු උළුවඩුගම ඒ කුමරිය දැක රජහට
110 දැන්වූය. රජතෙමේ ඇය ගෙන්වන්ට පටන්ගත; එකල
උළුවඩුතෙමේ ඇය තමා රජදුබැව් කීය, එසේම කම්බලා
111 දියෙන් ගුහරජහු දුබැව් හැඟවීය. රජතෙමේ තුටුවූයේ,
මනාකොට කෘතමඩගල්‍ය විධිඇති ඇය පුත්‍රයහට පාවා
දුන්නේය.

112 වසභ රජු ඇවෑමෙන් ඔහුපිත් වඩ්කනාසිකාතිස් රජ අනු
රාධ පුරයෙහි තුන්හවුරුදුක් රජය කරවී. ඒ වක්නාතිස්
113 රජ ගොණගංතෙර මහාමඞ්ගල නම් විහාරය කරවීය.
114 මහාමාත්‍රවූ ඒ දේවීතොම තෙරුන් වදළා මෙනෙහි
කරනනි වෙහෙරක් කරණුපිණිස වසතු රැස්කළාය.

115 වක්නාතිස් රජු ඇවෑමෙන් පිත් ගජබා ගැමුනුරජ දෙවිසි
116 හවුරුදුක් රජය කරවී. ඒ තෙමේ මවුබිසවුන් බස්අසා මවු
117 බිසවුන් පිණිස හිඟුරුවැල් ලැහැබ් තන්හි රාජමාතු විහ
රය කරවී. පණ්ඩිත ඒ බිසව් බිම පිණිස මහාවිහාරයට
118 ලක්ෂයක් දුන්නිය විහාරයද කරවී. එහි සෙල්මුවා සෑය
නොමෝම කරවී. ඒ ඒ තැනින් මිළටගෙණ සඞ්ඝභොග
119 යද දුන්නාය. අභයගිරි මහසෑය මහත්කොට බැඳවී, එහිම
සතර දොරටුයෙහි ආදීමුඛ තොහොත් තොරන් කරවී. ඒ
120 මිහිපල්තෙම ගැමුනුතිස් වැව කරවා අභයගිරි විහාරයෙහි
බත්වැටුප් පිණිස දුන්නේය, මිරිසවැටි සෑයෙහි සැට්ටයද
121 කරවී. තවද ලක්ෂයකින් මිළටගෙණ සඞ්ඝභොගයද දුන්
122 නේය. අවසාන හවුරුදුයෙහි රමක විහාරය කරවීය.
(අනුරාධ) පුරයෙහි මහ අසුන් හලද කරවී.

123 ගජබාරජු ඇවෑමෙන් ඒ රජු බිසවුන් පිය මහළුනා රජ
124 සහවුරුදුක් රජය කරවී. නැගෙණහිර දිග ජේජලකනම්
විහාරක්ද දකුණුදිග කොටගල් වෙහෙරද බටහිර ළද
125 පහන් නම් විහාරයද නාගදිවයින ඇල්ගිරියද බීජගාම
සමීපයෙහි තෙනවේලි විහාරයද රුහුණු ජනපදයෙහි
126 තොබල්නා පව්වද ඇතුළුරට ගිරිහාලික විහාරයද යන
මේ සත්විහාරයන් මහපැණැති ඒ මහළුනා මිහිපල්තෙම
මන්දවූ ආයුකාලයෙහිද කොට නිමවී.

127 පැණැතෙත්තෝ මේ ආකාරයෙන් අසාරවූ ධනයෙන් සාරවූ බොහෝ පින්කොට ගණිති, අඥයෝ වූකලී මෝහ නිමිත්තෙන් කාම හේතුකොටගෙණ බොහෝ පවුකරනාහුයි.

මෙතෙකින් සුදිජනයා පහන් සංවෙග පිණිස කළ මහවංශ වාදසරාජක නම් පන්තිස්වන අදියර නිමි.

---

# 36 වෙනි පරිච්ඡෙදය.

1 මහළුනා රජු ඇවෑමෙන් උගු පිත් භාතියතිස් රජ සුවිසි
2 වසක් ලක්රජය කරවී. මහාවිහාරය සිසාරා ප්‍රාකාරය කර
3 වීය. ඒ මිහිපල්තෙමේ ගවරතිස්ස විහාරය කරවා, මේ විහාරයට මහගැමුනු වැවත් දුනෙප්ය, භාතියතිස් නම්
4 විහාරයද කරවීය. මිහිපල්තෙමේ මනරම් ථූපාරාමයෙහි
5 පොහෝගෙයද වතනිරට එක්වැවද කරවීය. සතුන් කෙරෙහි මොලොක් සිත්ඇති සඞ්ඝයා කෙරෙහි දැඩි ගෞරව ඇති ඒ මිහිපල් භික්‍ෂු භික්‍ෂුණී සඞ්ඝයා විසයෙහි මහදන් පැවැත්වීය.

6 භාතියතිස් රජු ඇවෑමෙන් උගු මල් කණිට්ඨතිස් රජ අට
7 විසි හවුරුද්දක් ලක්දිව්හි රජය කරවී. ඒ රජ භූතාරාම මහානාග තෙරුන් කෙරෙහි පැහැද අභයගිරි විහාරයෙහි
8 රතනප්‍රසාද නම් ගෙයක් යහපත්කොට කරවීය. අබාගිරි
9 පව්වද මහපිරිවෙණද මණිසෝම විහාරයෙහි මහපිරිවෙණද එහිම දාගෙයද එසේම අම්බත්ථල සෑගෙයද නාගදිව
10 සිත ගෙයි ප්‍රතිසංස්කාරයද කරවීය. මිහිපල්තෙමේ මහාවිහාර සීමාන්තය මැඩ එහි කුක්කුටගිරි පිරිවෙන් පන්තිය
11 සකස්කොට කරවීය. මනුෂ්‍ය ශ්‍රෙෂ්ඨතෙමේ මහවෙහෙර දක්‍ෂිණිය මනරම් මහත්වූ සතරැස් පහ දොළොසක් කරවීය.
12 දකුණු වෙහෙර සෑයෙහි සෑගෙයද කරවිය. මහාමේඝ
13 වන මහාසීමාව මිරිකා දකුණු වෙහෙර බත්හලද (කර වීය). ඒ තෙමේ මහවෙහෙර පච්ර පාශ්වයකින් පහකොට
14 දකුණු වෙහෙර බලා යන මාර්ගයද කරවීය. භූතාරාම විහාරයද රාමවිහාර සමීපයෙහි රාමගොණක විහාරයද
15 එසේම නන්තිස් අරමද කරවීය. නැගෙණහිරිදිග ගඟ රාජියෙහි අනුලතිස්ස පර්වත විහාරයද නියෙල්තිස් අරමද

16 පිළපිටි වෙහෙරද එසේම මනුෂ්‍ය ශ්‍රෙෂ්ඨතෙමේ රජමහ
17 වෙහෙරද කරවීය. ඒතෙමේම කැළණිවෙහෙර මඩොල්
ගිරිය දුව්වලවාපිතිස්ස යනාමේ විහාර තුන්තන්හි පොහෝ
ගෙවල් කරවීය.

18 කණිට්ඨතිස් රජු ඇවෑමෙන් උහු පිත් සුළුනායයි ප්‍රසිද්ධ
19 කුමර දෙවසක්ම රජය කරවී. සුළුනා රජු මල්වූ කුඩ්ඩ
20 නාගරජ සොහොයුරු රජුමරා එක්වසක් මෙහි රජය කරවී.
මිහිපල්තෙමේ මහාපාළි නම් බත්හලද වැඩූයේය, එක්නෑ
ළිසෑයෙහි පන්සියයක් භික්ෂූන්ට නිතොර (දන් දුනෙන්ය)

21 එකල කුඩ්ඩනාග රජහු බිසව් සොහොයුරු සිරිනා සෙ
22 නෙවි තෙමේ රජහට දමරිකව, බලවාහනයෙන් යුක්තව
නුවර වෙත අවුත් රජසෙන්හා යුදකෙරෙමින් කුඩ්ඩනාග
23 මිහිපල්හු පලවා ලබනලද ජයඇතොත් ශ්‍රෙෂ්ඨ අනුරා
පුරෙහි (වෙසෙමින්) එකුන් විසිහවුරුඇදක් ලක්රජය කරවී.
24 මිහිපල්තෙමේ ප්‍රවර මහා චෛත්‍යයෙහි ඡත්‍රය කරවා මන
රම් දකුම් කටයුතු රන්කම් කරවීය. පස්මහල් කොට
25 ලොහොපහයද කරවිය. මහබෝ සතර දෙරටුයෙහි හිණි
26 (පඩිනිය) නැවත කරවීය. ඡත්‍ර ප්‍රාසාදය කරවා පෙළ
හරෙහි (මහ) පූජා කෙළේය. දයා පරමකොට ඇතොත්
ලක්දිව්හි කුලඹුවශීගයාත් (රාජකෘත්‍යයෙන්) තොර
කෙළේය.

27 සිරිනා රජු ඇවෑමෙන් ඔහු පිත් තිස්සකුමර ධර්ම ව්‍යව
28 හාරයෙහි පණ්ඩිතවූයේ දෙවිසි හවුරුඇදක් රජය කරවී.
ඒ තෙමේ යම්හෙයකින් හිංසාවෙන් තොරවූ නීතික්‍රමය
29 මෙහි පිහිටවීද එහෙයින් ව්‍යවහාරතිස් රජයයි කරණලද
නම් ඇතිවිය. කම්බුග්‍රාම වාසී දෙවස්ථවිරයන් වෙත දහම්
30 අසා, පංචමහාවාසයෙහි (රොගාතුරයන්ට) පිළියම්ද කර
විය. අනුරා අරම් වැසි මහාතිස්ස තෙරුන් කෙරෙහි ප්‍රසන්න
31 වූයේ මුවෙල පටුන්හි දනවෘත්තිය කරවීය. ඒ තිස්ස රජ
32 මහාවිහාර දෙක්හිම මණ්ඩපද, මහබෝගෙයි නැගෙණ
හිරි ලොහොරෑ දෙකද (කරවීය). සුවඅවස්වන පරිදෙන්
සත්පත් පහය කරවා මසෙක් මසෙක්හි දහසබැගින් මහා
33 විහාරයට (දන්) දෙවිය. අභයගිරි විහාරය දක්ෂිණමූල
විහාරය මිරිසවැටි විහාරය කුලතිස්ස විහාරය මියුගුණුවිහා
34 රය මාගම්හි මහානාගවිහාරය නාගදීවසින තිස්ස නම්
35 විහාරය එසේම කැළණිවිහාරය යන අටතැන පිහිටි
චෛත්‍යයන්හි ඡත්‍රකර්ම කරවීය. ගොළුනා සෙනෙවියා
36 වෙහෙරද එසේම දකුණු වෙහෙරද මිරිසවැටි වෙහෙරද

එසේම පූත්තභාග වෙහෙරද ඉසුරුමුනි වෙහෙරද නාග
37 දිවයින තිස්ස වෙහෙරද යන විහාර සයෙහි පවුරුත් කරවීය.
38 අනුරා රාමයෙහි පොහෝගෙයද කරවීය. ඒ තෙමේ සද්ධර්ම
ගෞරවයෙන් මුළු ලක්දිව ආර්‍යවංශ දෙසනා තන්හි දන්
39 වැට තැබ්බවීය. ශාසනප්‍රිය ජනාධිනාථ තෙමේ තුන්ලක්ෂ
40 යක් දී, නය සහිත භික්ෂූන් නයින් මිදූයේය. ඒ තෙමේ මහ
41 වෙසක් පූජව කරවා ලක්දිව් වැසි සියලු භික්ෂූන්ටම, තුන්
සිවුරු දෙවීය. ඒ තෙමේ කපිල ඇමැතියා ලවා වෛතුල්‍ය
වාදය මිරිකා පාපනිග්‍රහය කරවා බුදුසස්නද බැබලවීය.

42 ඒ රජු මල් අභයනාගයයි ප්‍රසිද්ධවූ කුමර රජහු දෙවියහා
සංසර්ගය ඇතෙත් සියබෑ රජු විසින් දන්නාලදුයේ භයව
43 සේවකයන් සමග භල්ලතිත්ථයට පලාගොස් මසිලාහට
44 තිපියාණේ අත්පා සිඳවීය. රජහු රට හෙද පිණිස ඔහු
මෙහිම හිඳුවා බලූඋපමා දක්වා තමා කෙරෙහි සිනිඳුවූවන්
45 ගෙණ, එහිදීම නැව්නැගී තෙමේ පරතෙර ගියේය. මයිල්
46 සුභදෙව තෙමේ මිහිපලු වෙත එලඹ, සුහෘදයෙකුසේ
වෙසෙමින් රජුකෙරෙහි රටවැසි ජනයා හෙද කෙළේය.
47 අභයකුමර එය දන්නා පිණිස මෙහි දූතයෙක් එවීය. දූතයා
දැක ඒ තෙමේ පුවක් ගසෙක වට කරකැවෙමින් කුන්තා මිටු
48 යෙන් පෙළා මුල් දුර්වලකොට බාහුයෙන්ම (ගස) හෙලා
49 ඔහු තර්ජනයකොට පැලවීය. දූතතෙමේ දැන අභය කුමර
හට එපවත් දැන්වීය. අභය කුමර ඒ දැන ඒ රටින් බොහෝ
50 දෙමළුන් ගෙණ බැයාහා යුදපිණිස නුවරවෙත ආය. රජ
තෙමේ ඒ දැන අසෙකු නැගී දෙවිය සමග පලාගොස් මලය
51 රටට ගියේය. උහුමල් තෙමේ ලුහුබැඳ ගොස් මලයරටදී
රජු මරා බිසව් ගෙණ නුවරට ආයේ මිහිපල්ව අටහවු
රුද්දක් නුවර රජකම් කරවීය.

52 ඒ රජතෙමේ මහබෝ සිසාරා ගල් පිළිකඩද ලෝහොපා
53 මිදුල්හි මණ්ඩපයද කරවීය. දෙලක්ෂයකින් නොයෙක්
වස්ත්‍රයන්ද ගන්වා ලක්දිව්හි භික්ෂු සඞ්ඝයාට වස්ත්‍ර දන්
54 දුනෙන්ය—— අභය රජු ඇවෑමෙන් උහුබෑ වොහාරතිස්ස
රජු පිත් සිරිනාග කුමර දෙහවුරුද්දක් ලඞ්කාරජය කරවී.
55 ඒ රජතෙමේ මහබෝ හාත්පස පවුර පෙරලා සකස්කොට
56 මහබෝ ගෙහි වැලිතලායෙහිම මිදෙල්තුරින් ඔබ හංස
57 වෘත්තයද සිත්කළු මහාමණ්ඩපයද කරවී. සිරිනා රජු පිත්
විජය කුමාරක නම් තැනැතෙත් පියරජු ඇවෑමෙන් එක්
හවුරුද්දක් රජය කරවී.

58 මියුගුණු වෙහෙර සමීප රට උනුන් යහළුවූ සඟතිස්ස
සඟබෝය තුන්වෙනිවූ ගොළුඅබායයි යන ලම්බකණ්ණ
59 ගොත්‍රඇති තුන්දෙනෙක් වූහ. රාජෝපස්ථානයට එන ඒ
තුන්දෙනා තිසාවැව හේගෙහි උන් පණ්ඩිතවූ එක් අන්ධ
60 යෙක් පදශබ්දයෙන් හැඳින "මේ පොළෝහිමියන් තුන්
දෙනා පෘථ්වීනොමෝ උසුලනාහිය" යි කීයේය. පසුව එන්
61 නාවූ අභය කුමර ඒ අසා "කවරක්හුගේ වංශය පවත්නේ
දැ" යි පෙරලා ගොස් අභය කුමර ඔහුම විචාළේය. ඒ තෙමේ
"පශ්චිමයාගේය .. කීය. ඒ අසා අභයකුමර සෙසසන් දෙන්
62 නා සමග ගියේය. ඒ තුන්දෙනා නුවරට වැද රජහට ඉතා
ඇළුම්ව රාජකෘත්‍යයන් සිඩකෙරෙමින් විජයරජු වෙත
(විසූය)

63 (ඒ තුන්දෙනා) එක්ව විජයරජු රජගෙහිදීම මරා
සෙනෙවි සඟතිස් කුමරු ඉතිරි දෙදෙනා රාජ්‍යයෙහි අභි
64 ෂෙක කළෝය. මෙසේ අභිෂෙක කරණලදවූ ඒ සඟතිස්
65 රජ නගරෝත්තම අනුරා පුරෙහි සතර හවුරුද්දක් රජය
66 කරවී. මහසෑයෙහි ඡත්‍රයද රන්කම්ද කරවීය. මිහිපල්
තෙමේ වෙන් වෙන්ව ලක්‍ෂයක් ලක්‍ෂයක් අගණ මිණිරු
67 වන් සතරක්ද සතර රිවිබිඹු මැද තැබ්බවීය. එසේම සෑ
මුදුන්හි අනගි විදුරු සුඹුළුවක් හෝ කොත්කැරැල්ල
තැබ්බවිය. ඒ නරශ්‍රෙෂ්ඨතෙමේ ඡත්‍රොත්සව පූජායෙහි සත
68 ළිස් දහසක් සඞ්ඝයාට ෂට් චීවරයන් දෙවිය. දම්ගල් වැසි
මහාදෙව තෙරුන් විසින් දෙසනලද යාගුයෙහි අනුසස්
69 දක්වනනාවූ ඛන්ධකපාළියෙහි සූත්‍රය අසා, පහන්වූයේ
සඞ්ඝයාට සකස්කළාවූ කැඳදානය නුවර සතර දොරටුයෙහි
70 යහපත්කොට දෙවිය—ඇතොවුරන් ඇමැතියන් සහිත
ඒ රජ පැසුනාවූ දඹ අනුභවය පිණිස අතරෙන් අතර
71 නැගෙණහිරි දිවයිනට යෙයි. නැගෙණහිරි වැසි මිනිස්සු
මොහුගේ ගමනින් උපද්‍රැත වූවෝ රාජභොගයට සුදුසු දඹ
ඵලයන්හි වස යෙදූය. ඒ ජම්බුඵලයන් කා ඒතෙමේ එහිම
මෙළේය.

72 ගොළුඅබා කුමර සඟබෝ සෙනෙවි රජු රාජ්‍යයෙහි අභි
73 ෂේක කෙළේය. පන්සිල් රක්නා ඒ රජතෙමේ ශ්‍රීසඞ්ඝ
74 බොධියයි ප්‍රසිඩවීය. අනුරා පුරෙහි වෙසෙමින් දෙහවුරුද්
දක් රජය කරවී. · මහවෙහෙර මනරම් ලහබත් ගෙයක්
75 කරවිය—එකල්හි ඒ රජ ලක්දිව මිනිසුන් නියංසායෙන්
බැගෑබැව් දැන කරුණාවෙන් කම්පිත හෘදය ඇතොත් ඒ
76 තෙමේ මහසෑ මිදුල බිම මෙසේ නිශ්චයකොට ගෙණ

"වැසිවැස දියෙහි මා නොඉල්පූකල මෙහි මැරෙනනා වූද මම නොනැගිට්නෙනම්" යි හොත්තේය. රජු මෙසේ
77 හොත් කෙණෙහිම සියලු ලක්දිව පිනවමින් වැසි වැස්
78 සේය. එසේද ඒ තෙමේ දියෙහි නොඉල්පෙන්නෙන් නොනැගිටී. ඉක්බිත්තෙන් ඇමැතියෝ දිය බැසයන
79 සොරොවු ඇවුරුහ. ඉක්බිති දැහැමි රජතෙමේ දියෙහි ඉල් පෙමින් නැගිට්ටේය. මෙසේ ලඞ්කාවීපයෙහි නියංසාය
80 කාරුණ්‍යවෙන් බැහැරලීය~~ ඒ ඒ තැන සොරු වූහයි මිහිපල්තෙමේ අසා සොරුන් ගෙනවා රහසින් පලවා, රහ
81 සින් මළවුන්ගේ සිරුරු ගෙන්වා ගිනෙනන් පුලුස්සා සොර උවදුරද නසනලදී.
82 රක්තාක්ෂ යයි ප්‍රසිඬවූ එක් යකෙක් මෙහි අවුත් ඒ ඒ
83 තැන මිනිසුන්ගේ ඇස් රතුකෙරෙයි. උතුන් රත්ඇස්බලා
84 බියවැද * මනුෂ්‍යයෝ නසිති. යක්ෂතෙමේ ඒ මිනිසුන් සැක නැතිව කයි. රජතෙමේ උන් උවදුරු අසා තැතිගත් සිත්
85 ඇතෙත් හුදකලාව අටඟ පෙහෙවස් ඇතිව උපවස් ගෙයැ තුළ "ඒ යකු නොදැක නොනැගිට්නෙනම්" යි හොත් තේය. යක්තෙමේ රජහු දහම් තෙදින් රජහුවෙත ආය.
86 රජු විසින් කවරෙක්දැයි පුලුවුස්නා ලදුවූ යක්තෙමේ මම (අසවලැයි) දැන්විය. "කවරහෙයින් මාගේ ප්‍රජාව කයිද
87 නොකව"යි කීයේය. යක්තෙමේ "මට එක් දනවෙවක මිනිසුන් දෙව" යි කීය. නොහැක්කැයි කීකල යක්තෙමේ
88 ක්‍රමයෙන් ඉල්වා "එක් මිනිසෙක් දුනමැනව"යි කීය. රජ තෙමේ "අනිකෙක් දෙන්ට මට නොපිළිවන මා (මස්) කයි"
89 කීයේය. යක්තෙමේ නොහැක්කැයි කියා "ගමක් ගමක් පාසා බිලි දුනමැනව"යි රජුගෙන් ඉල්විය. භූමීශ්වරතෙමේ මැනවයි කියා සියලු දිව්හිම ගම්දොර තබ්බවා ඔහුට බලි
90 (බත්) දෙවීය. සියලු සතුන් කෙරෙහි අනුකම්පාඇති ලක්දිව් පහන්බඳු ඒ මහසත්හු විසින් හටගත් මහාරොගභය මේ උපායෙන් නසනලදී.
91 රජහුගේ ඇමැතිවූ භාණ්ඩාගාර නායක ගොළුඅබා කුමර
92 දූමරිකව උතුරුදිගින් නුවරට එලඹියේය, ඒ රජතෙමේ පරහිංසා නොකැමැත්තේ පෙරහන්කඩ ගෙණ හුදකලාව
93 පලාගියේය~~ බත්මුලක් ගෙණ මගයනනාවූ මිනිසෙක්

---

* භාසිතවා රත්ත නෙත්තානං, යනෙනහි ඇස්රතුබැව් උන්ට කියාසි අණිසි.

බත් අනුභවය පිණිස නැවත නැවත යාච්ඤා කෙළේය.
94 කරුණා බහුල රජතෙමේ දිය පරහාගෙණ (බත්) අනුභව
කොට ඔහුට මේ උපායෙන් අනුග්‍රහයක් කරන්ට “පින්වත
95 මම සඞ්ඝබොධි රජයෙමි මා හිස ගෙණගොස් ගොළුඅබා
රජුට දක්වව, තට බොහෝ වස්තු දෙනෙන්ය”යි මේ බස
96 කීයේය. ඒ තෙමේ එසේ කරන්ට නොකමැති විය. මිහි
පල්තෙමේ ඔහු පිණිස හුන්නේම මෙළේයි. මිනිස්තෙමේ
97 රජු හිස ගෙණ (ගොස්) ගොළුඅබා රජුට දැක්වීය. ඒ තෙමේ
විස්මිත සිත්ඇතෙත්, ඔහුට වස්තුදී (මළ) රජුට මැනවින්
සත්කාර කරවීය.
98 මෙසේ මේ ගොඨාභය තෙමේ මෙඝවණ්ණාභයයි ප්‍රසිඞ
99 වූයේ තෙළෙස් හවුරුදුක් ලක්රජය කරවීය. රාජෙදක
100 නය කරවා උයන් දොරටුයෙහි මණ්ඩපයක් තනවා අලඞ්
කාර කරවා සඟින් භික්ෂූන් අටතුරා දහසක් ලැබගෙණ
එහි වඩා හිඳුවා මිහිරිවූ නන්වැදෑරුම් කැඳ අවුළුහා භොජ
101 නයෙන් සිවුරු සහිතකොට දවස්පතා මහදන් පැවැත්
102 වීය. මෙසේ එක්විසි දිනක් නොවලහා කරවූයේයි. මහා
103 විහාරයෙහි මහත් ශෛල මණ්ඩපයක් කරවීය, ලොහො
පාය වැම්ද පෙරලා තැබ්බවීය. ජයමහ බොධියෙහි ගල්
104 පිළිකඩද උතුරු දොරටුයෙහි තොරනද, සතර කොණ
චක්‍ර සහිත වැම්ද පිහිටවීය. දොරටු තුනෙහි සෙල්මුවා
105 පිළිම කරවා දකුණු දොරටුයෙහි සෙල්මුවා පලගක් තැබ්බ
වීය. මහාවිහාරයට බටහිරින් පදන්බිම කරවීය. ලක්දිව්හි
106 ජීර්ණාවාස සියල්ලම අළුත්කොට කරවීය. ඒ තෙමේ ථූපා
රාම විහාරයෙහි දාගෙය හා එසේම අම්බතලා දාගෙයද මිණි
107 සොම්නම් අරම දාගෙයද පිළිසකර කරවීය. ථූපාරාමය
මණිසොමාරාමය මිරිසවැටිය දක්ෂිණ විහාරය යන මෙ
තෙක් තැන පොහෝ ගෙවල්ද (පිළිසකර කරවී) මේඝ
108 වණ්ණාභය නම් අළුත් විහාරයක්ද කරවීය. විහාරපූජා පෙළ
හරෙහි ලක්දිව් වැසි තිස්දහසක් භික්ෂූන් රැස්කරවා ෂට්
109 සිවුරු දෙවිය, එකල මහ වෙසක්පූජාවද එසේම කරවීය.
110 වසක් පාසා සඞ්ඝයාට ෂට්චීවර දෙවීය.
111 ඒ තෙමේ පව්ටුන්ගේ නිග්‍රහය කරවා, බුදුසස්න ශුඬකර
වමින්, අභයගිරිවාසී වෛතුල්‍යවාදිවූ බුදුසසුන්හි කටුබඳු
112 සැටක් පමණ භික්ෂූන් ගන්වා, ඔවුන්ට නිග්‍රහකරවා පර
113 තෙර දැම්මවීය. එහි දමනලද තෙරහුගේ ආශ්‍රයඇති යක්ෂ
විද්‍යාදියෙහි දක්ෂවූ සඞ්ඝමිත්‍ර නම් සොළී භික්ෂුකෙනෙක්
මහාවිහාරයෙහි භික්ෂූන්ට කිපී මෙහි ආයේය——සීලාදී

114 සංයම නැති ඒ තෙමේ ථූපාරාමයෙහි සඞ්ඝ සන්නිපාතයට
115 වැද එහිදී පිරිවෙන් වැසි මහාස්ථවිරවූ සඞ්ඝපාල නම් මේ
ගොළුඅබා රජු මයිල් මහළු තෙරුන් රජහුගේ නමින් කථා
116 කරන්නාහුගේ බස ප්‍රතික්ෂෙප කොට, රජහුගේ කුලෝපග
විය. රජතෙමේ ඔහු කෙරෙහි පැහැද දෙටුපිත් දෙටුතිස්
117 කුමරද (උහු) මල් මහසෙන් කුමරද, ඒ භික්ෂුහට භාරකෙ
ළේය. ඒ තෙමේ දෙවෙනි කුමර සතුටුකොට ගතෙත්ය.
දෙටුතිස් කුමර වනාහි ඒ මහණහු කෙරෙහි වෛර බැන්
දේය.

118 පියරජු ඇවෑමෙන් ඒ දෙටුතිස් කුමර රජවිය. පියරජු
119 ශරීර සත්කාරයෙහි පැමිනෙනු නොකැමැති, දුෂ්ට ඇමැති
යන් නිග්‍රහ පිණිස රජතෙමේම නික්මගොස් මල්කුමරු
120 පෙරතුකොට යවා පියහු සිරුරත් ඉක්බිතිකොට යවා, ඉන්
ඉක්බිති කොට ඇමැතියනුදු මෙහෙයා තෙමේ පසුව මල්
121 හුද පියහු සිරුරද පිටත්වූකල ඊට ඉක්බිතිව දොර වස්වා
දුෂ්ටාමාත්‍යයන් මරවා පියහු දරසෑය සිසාරා දිවස්හුල
122 හිඳවී‿‿‿රජහුගේ ඒ ක්‍රියාව කරණකොටගෙණ දෙටු
තිස් යන ඔහුගේ නාමය කක්ඛල යනු උපපදකොට ඇති
123 විය. සඞ්ඝමිත්‍ර ඒ භික්ෂුතෙමේ ඒ නරනාථයා කෙරෙන්
බියව ඔහු අභිෂෙකයට සමකාලවම මහසෙන් කුමරුහා
124 මන්ත්‍රණය කොටගෙණ ඒ මහසෙන්හුගේ අභිෂෙකය
අපෙක්ෂා කෙරෙමින් මෙයින් පරතෙර ගියේය‿‿‿.ඒ දෙටු
තිස් රජ පියරජු විසින් කොටඅඩාල උතුම් ලොහො පහය
125 සත්බුමුකොට කෙළක් අගණසේ කරවිය. එම දෙටුතිස්
රජ සැමලක්ෂයක් අගණ මිණිරුවනක් පුදා එහි (ලොහො
126 පහයෙහි) උතුම් මිණිපහණක් කරවීය. මහඟු මැණික්
දෙකක් පිදිය. මහබෝගෙහි තොරන් තුණද කරවිය.
127 ඒ පෘථිවීශ්වර තෙමේ පැදුම්තිස් පච්ච විහාරයක් කරවා
පඩාවාසයෙහි සඞ්ඝයාට දුනොන්ය. ඒ දෙටුතිස් රජ දෙවෙනි
128 පෑතිස් රජු විසින් පෙර ථූපාරාමයෙහි පිහිටුවනලද මනා
දැකුම්ඇති මහගල් පිළිමය ථූපාරාමයෙන් ගෙණගොස්
129 පැදුම්තිස් පච් අරම්හි පිහිටවීය. ඒ දෙටුතිස් තෙමේ කළු
130 මැටි වැව සෑගිරියට පිදිය. වෙහෙර පහ පෙළහර මහ
වෙසක් පූජය (යන මෙතෙක්) පූජකොට දහසක් සඞ්ඝ
131 යාට ෂට්චීවර දානය දුනොන්ය. ඒ රජතෙමේ ආලම්බගාම
132 වැවද කරවිය. ඒ රජතෙමේ මේ ආකාරයෙන් ප්‍රාසාද
කරණදිවූ නන්වැදෑරුම් පින්කම් කරවමින් දසහවුරුඇක්
රජය කරවී.

133 මේ ආකාරයෙන් නත්වැදෑරුම් පින්කමට හේතුවූ නර පල්බව නොයෙක් පාපයන්ටද හේතුයයි (දැන) විෂයෙන් මිශ්‍ර මධුරහාරයක් සෙයින් එය කිසිකලෙකත් සත්පුරුෂ යන්ගේ මනස භජනය නොකරනෙන්ය.

මෙතෙකින් ශුද්ධජනයා පහන්සංවෙග පිණිස කළ මහවස ත්‍රයොදසරාජක නම්වූ සතිස්වන අදියර නිමි.

---

# 37 වෙනි පරිච්ඡෙදය.

(පූ ඒව භා ග ය.)

1 දෙටුතිස් රජු ඇවෑමෙන් උහුමල් මහසෙන් රජ සත්තිස් 2 හවුරුද්දක් රජය කරවිය. ඔහුගේ රාජ්‍යාභිෂෙකය කර වන්ට සඞ්ඝමිත්‍ර ස්ථවිරතෙමේ කල් දැන පරතෙර සිට මෙහි 3 ආයේය. උහුගේ අභිෂෙකයද නොයෙක් පරිද්දෙන් අනික් කිසඳ කරවා සීලාදී සංයම නැති හේතෙමේ මහාවිහාර 4 විධ්වංසනය කරණු කැමැතෙත් "මහරජාණෙනි මහවිහාර වාසී මොව්හු අවිනයවාදීහ අපි විනයවාදීයම්හ" යි රජහු 5 මෙසේ (දුෂ්ට) ගන්වා "යමෙක්තෙමේ මහවෙහරවැසි මහණෙකුට ආහාරයක් දෙයිනම් ඒ තෙමේ සියයක් අඩට 6 සුදුසුය" යි රජුලවා දණ්ඩනය තැබ්බවී. මහාවිහාරවාසී ඒ භික්ෂූහු ඔවුන් විසින් උපද්‍රැතවූවාහු මහාවිහාරය දමා 7 මලයරට රුහුණුරට(බලා)ගියෝය. එහෙයින් මේ මහාවිහා රය තෙමේ නවහවුරුද්දක් හරණලද්දේ මහාවිහාරවාසී 8 භික්ෂූන්ගෙන් ශූන්‍යවිය හිස්විය—දුර්මතිවූ ඒ ස්ථවිර 9 "අස්වාමික වස්තුව පෘථිවීශ්වරයාට වනෙන්ය" යි දුර්මති රජ හට හඟවා මහාවිහාරය නස්වන්ට රජහුගෙන් ලැබූ අනු මති ඇති දුෂ්ට මනසින් යුක්ත ඒ තෙමේ මහාවිහාරය 10 නසන්ට නියමකෙළේය. සඟමිත් තෙරහුගේ මෙහෙකරු රාජවල්ලභ දරුණුවූ සොණ ඇමැතිද අලජ්ජී භික්ෂූහුද 11 සත්බුමු උතුම් ලොහොපහයද නානාප්‍රකාර ගෙවල්ද බිඳ 12 මෙයින් අභයගිරියට ගෙණගියෝය. නවද මහවෙහෙරින් ගෙණයන ලද්දාවූ බොහෝ ප්‍රාසාදෙපකරණයෙන් ඒ අභය 13 ගිරි විහාරය බොහෝ ප්‍රාසාද ඇතෙත්විය. පාපමිත්‍රවූ සඞ්ඝ මිත්‍ර නම් තෙරුන්ද සොණ නම් සේවකයාද ලැබ ඒ මිහි

14 පල්තෙම බොහෝ පවුකෙළේය. ඒ මිහිපල්තෙම පැදුම්
තිස් පව්වෙන් මහගල් පිළිරුව ගෙන්වා අභයගිරියෙහි
15 පිහිටවී. පිළිමගෙය බෝගෙය මනරම් ධාතුසාලාව සත
රැස් සාලාව යන මෙයද කරවීය. කුක්කුටගිරි පිරිවෙන්
16 පෙළ ජීර්ණ ප්‍රතිසංස්කරණයෙන් සැරසීය, දරුණු ක්‍රියා
ඇති ඒ සඟමිත් තෙරුන් කරණකොටගෙණ එකල ඒ අභය
ගිරි විහාරය තෙම දකුම් කටයුතු වීය.

17 රජහුගේ සර්වාර්ථ සාධකවූ මෙඝවර්ණාභය නම් යහළු
ඇමැතිතෙමේ මහවෙහෙර නැස්ම නිමිත්තකොට ගෙණ
18 කිපී (රජහට) දූමරිකව මලයරටට ගොස් ලැබූ මහබල
19 සෙන් ඇත්තේ දුරතිස් වැව්හි කඳයුරු ලාගත්තේය. ඒ
මිහිපල්තෙමේ යහළුවා එහි ආබැව් අසා යුද පිණිස පෙරට
20 ගොස් කඳයුරු පිහිටවීය——මලයරටින් ගෙණෙනලද
මිහිරි පානයක් හා මාංසයක් ලැබ "සහාය රජු විනා නො
21 කනෙනම්" සිතා එය තෙමේම ගෙණ රාත්‍රියෙහි හුදකලාව
22 නික්ම රජුවෙත අවුත් එපවත් දැන්විය. ඔහු විසින් ගෙ
ණෙනලද ඔහුහා විස්වස්ඇත්තේ අනුභවකොට රජ
තෙමේ "කවර හෙයකින් තෝ මාකෙරෙහි දූමරික වූයෙහි
23 දැ"යි ඇමැතියා පිළිවිස්සේය. "තොප විසින් මහාවිහා
රය නැසූ බැවිනැ" යි කීයේය. රජතෙමේ "විහාරය පිහිටු
24 වනෙනම් මාගේ වරද ක්ෂමා කර" යි මෙසේ කීයේය. ඒ
ඇමැතිතෙමේ රජු කමා කරවිය, ඔහු විසින් හගවනලද
25 රජතෙමේ පෙරලා නුවරට ආයේය. ඒ මෙඝවර්ණාභය
තෙමේ රජුට හගවා (විහාර කරණයට) ද්‍රව්‍ය සම්භාර හේතු
වින් රජු සමග නොආයේය.

26 රජහුගේ වල්ලභවූ ලේනාවෙහිද එක් බිරින්දක් තොම
මහාවිහාර නාසනයෙහි දුක්වූවා එසේම කිපියා, වඩුවාට
27 සඞ්ග්‍රහකොට ඒ විනාසක තෙරහු මැරවිය. ථූපාරාමය නා
සන්ට පැමිනියාවූ දුෂ්ට කල්පනා හා දරුණු ක්‍රියාඇති සඟ
28 මිත් තෙරහු මරවා නොසන්හුන් දරුණු සොණ ඇමැති
29 යාද මැරූහු——ඒ මෙඝවර්ණාභය තෙමේ ද්‍රව්‍යසම්භාරය
30 ගෙණ අවුත් මහවෙහෙර නොයෙක් පිරිවෙන් කරවිය.
අභයමහ ඇමැතියා විසින් ඒ භය සංහිඳුකල භික්ෂූහු ඒ ඒ
31 දිගින් අවුත් මහාවිහාරයෙහි විසූහ. රජතෙමේ මහබෝ
ගෙහි බටහිරදිග ලොහොරූ දෙකක් කරවා තැබ්බවීය.

32 දකුණු අරම් වැසි කුහකවූ වඩක සිත්ඇති පාපමිත්‍රවූ
33 නොසන්හුන් තිස්සතෙරුන් කෙරෙහි පැහැද මහවිහාර
සීමා පෙදෙසක්වූ ජෝතිවන උයන්හි වලකනු ලබනුවාවූද

34 ඒ තෙමේ ජේතවන විහාරය කරවීය. ඉක්බිති ඒ තෙමේ සීමාව උදුරන්ට භික්ෂු සඞ්ඝයාගෙන් ඉල්වීය; භික්ෂූහු ඒ
35 නොදෙනු කැමැත්තෝ විහාරයෙන් පලාගියෝය. මෙහි සතුරන් විසින් කරණ ලබනනාවූ සීමා සමූහනය කෝප
36 කරන්ට ඒ ඒ තැන කිසි භික්ෂුකෙනෙක් සැඟවී හුනෝය.
37 මෙසේ නවමසක් මහාවිහාරය මුලුලෙලෙහි භික්ෂූන්ගෙන් තොරවිය. අන්‍යභික්ෂූහු "සීමාසමූහනය කරමහ" යි සිතූය.
38 ඉක්බිති සීමාසමූහන ව්‍යාපාරය නිමිකල භික්ෂූහු අවුදින් මේ මහාවිහාරයෙහි විසූහ......විහාර ප්‍රතිග්‍රාහක ඒ තිස්සතෙරුන්ට අන්තිම වස්තුවෙන් සත්‍යභූත චෝදනාවක් සඟමැද
39 පැමිනියාය. ධාර්ම්මිකයයි ලොකසම්මතවූ මහඇමැතියෙක් තෙමේ වූපරිඡෙදන් දැහැමෙන් විනිශ්චය කොට රජහු නොකැමැති කලම ඒ තෙරහු සිවුරු හැරවීය.
40 ඒ රජතෙමේම මිනෙන්රි විහාරය කරවීය. ඒ තෙමේම
41 දෙවොල නටබුන්කොට ගොකණ්ණ විහාරය එකකාපිලල විහාරය බමුණුගම කලන්දක විහාරය යන විහාරත්‍රය කර
42 වීය. මඟගම් විහාරය ගඟසෙන්ගල වැලි බටහිරිදිග දසෙන්ගල යන විහාරද කරවී. තවද රජතෙමේ කොක්වා
43 ජනපදයෙහි මහාවිහාරයක් කරවී. රූපාරම්ම විහාරයද සූළුපිටි විහාරයද උතුරු අබාහෙබ මෙහෙණිවර දෙකක්ද
44 කරවීය. කාළවේළක යක්ෂයාගේ දෙවොලෙහි සෑයකුදු
45 බැඳවී. ලක්දිව්හි දිරූ බොහෝ ආවාසයන් අළුත්වැඩියා කෙළේය. ඒ තෙමේ සඞ්ඝසථවිර දහසකට දහසක් අගණ
46 සථවිරදනයද සියලලන්ටම වසක්පාසා සිවුරුද දුනෙන්ය. ආහාර පනාදි දනයාගේ පරිච්ඡේදය නොපැණේ.
47 ඒ රජතෙමේම රට සුභික්ෂය පිණිස සොළොස් වැවක් කරවී. ඒනම්, මිනෙන්රි මහවැව ජල්ලූරවැව ඛානු නම් වැව මාමිණියාවැව කෝකවාතවැව මොනරාවැව පරක
48 වැව කුම්බාලකවැව වාහතවැව රත්මල්කඩවැව තිහවනම්
49 වැව වෙලංවිටිවැව මාගල්වැව සිරුවැව මහාදරගලලක වැව කළුපහන්වැව යන මොව්හු සොළොස්වැව්හුයි. ඒ
50 තෙමේ ගඟාවෙන් පබ්වත නම් මහමොවූ ඇලක් කැනවී. මේ ආකාරයෙන් ඒ රජතෙමේ ඉතා බොහෝවූ පින්හා පවුත් රැස්කෙළේය.

---

පූ ර්ව භා ග ය නි මි.

Cūlavaṃsa.
II

THE

# MAHĀWANSA.

FROM THE

## THIRTY-SEVENTH CHAPTER.

TRANSLATED AND EDITED, UNDER ORDERS OF THE CEYLON GOVERNMENT,

BY

H. SUMANGALA,
HIGH PRIEST OF ADAM'S PEAK,

AND

DON ANDRIS DE SILVA BATUWANTUDAWA,
PANDIT.

COLOMBO:
WILLIAM HENRY HERBERT, GOVERNMENT PRINTER, CEYLON.

1877.

TO

HIS EXCELLENCY

THE RIGHT HONOURABLE

SIR WILLIAM HENRY GREGORY,

KNIGHT COMMANDER OF THE MOST DISTINGUISHED ORDER OF SAINT MICHAEL AND SAINT GEORGE, GOVERNOR AND COMMANDER-IN-CHIEF IN AND OVER THE ISLAND OF CEYLON,

THE FRIEND AND PATRON OF IMPROVEMENT,

UNDER WHOSE ORDERS THIS WORK HAS BEEN TRANSLATED AND PUBLISHED;

AND

WHOSE ADMINISTRATION HAS BEEN SO HIGHLY CONDUCIVE TO THE ELEVATION OF THE NATIVES,

AND

THE IMPROVEMENT OF THEIR LITERATURE:

THIS WORK IS RESPECTFULLY INSCRIBED

BY THE TRANSLATORS.

*24th January,* 1877.

සංක්ෂෙපනය.

# මහාවංසය.

---

ගුණයෙන් මහත්වූ බුද්ධ බුද්ධශ්‍රාවකයන්ගේ පරම්පරාව හෝ ඓශ්වර්‍ය්‍යාදියෙන් මහත්වූ මහාසම්මත නරෙන්ද්‍රාදීන්ගේ පරම්පරාව මහාවංසනම් වේ. මේ ප්‍රකරණයද ඒ උභයවංශයෙන් සඞ්ගෘහිත හෙයින් අභෙදොපචාරයෙන් මහාවංසනම් වේ.

මේ මහාවංසය අනුරාධපුර මහවිහාර බඳ දික්සඳසෙනෙවියාපිරිවෙන් මාහිමි මහානාම මහතෙරුන්විසින් ප්‍රාරම්භකොට කරණලදි-ඒ මහානාමතෙරුන්වහන්සේ විසින් සිංහල අටුවා පොත්හි පැවැති වංශකථාව ගෙණ ශුද්ධ මාගධීභාෂායෙන් කරණලද්දේ යයි මහාවංස ටීකායෙහි කියනලදි—එහි "මහාවිහාරවාසීනං වා මහනාතං පොරාණට්ඨකථං එත්ථහි සීහලභාවං හිත්වා මාගධික භාසාය පවක්ඛාමීති අධිප්පායො" මහාවංසයෙහි දෙවෙනි ගාථාවෙන් මේ වංසයතෙම පුරාතනයන් විසින් කරණලදදේත් කිසි තැනෙක ඉතා විස්තරකරණලද්දේය කිසිතැනෙක අතිසංක්ෂෙප කරණලද්දේය නොයෙක් පුනරුක්ත දොෂ ඇතොත්යයි පෙණෙයි—දීපවංසය සඳහා මෙසේ කියන ලද්දේයයිද සැලකෙයි; එහි වනාහි මහාවංසාගතවූ කිසියම් කථාවක් ඉතා විස්තරවශයෙන්ද කිසියම් කථාවක් අතිසංක්ෂෙපයෙන්ද කියන ලදී—දූවීයෙහි කියනලද කථා නැවත නැවත කීමෙන් නොයෙක් පුනරුක්තයෙන්ද යුක්තව පෙණේ—එහෙයින් පුරාතනයන්විසින් කළ මහාවංසයයි කියන ලද්දේ දීපවංසය සඳහායයි ගැනෙන නමුත් ටීකායෙහි පුරාතනයන් විසින් කියනලද මහාවංසකථාරම්භාදිය දක්වනු පිණිස දීපවංසපාඨද උදාහරණ කොටත් "අයංහි ආචරියො එත්ථ පොරාණානං කතානි සීහලට්ඨකථාමහාවංසෙ අතිවිත්ථාර පුනරුත්තාදොසභාවං පහාය තං සුඛග්ගහණාදිපයොජනසහිතං කත්වා'ව කථෙසි" යනාදින් සිංහලාර්ථකථා මහාවංසයෙන්ම ගෙණ කළ බැව් කියනලදී— මේ මහාවංසයට ඇතුළත් බොහෝ කථා සමන්තපාසාදිකාදී අටුවාවලත් දක්වා තිබේ.

කලින්කල නොයෙක් නොයෙක් ප්‍රකරණවල ලියවී පැවත ආහෙයින් එසේ ලියනලද සිංහල පොතෙක්හි ප්‍රවෘත්තිය ප්‍රධාන

කොට මහානාම ස්ථවිරයන්වහන්සේවිසින් මහාවංශග්‍රන්ථය කළ බැව් දැන ටීකාචාර්යන්විසින් එසේ සඳහන්කරණලදැයි සැල කියයුතුයි- ඉන්පසු පැවති සියලු ශ්‍රැතියෙන් හා ප්‍රත්‍යක්‍ෂ දැනීමෙන් අනානගීත කරණ ලදී.

මේ ප්‍රකරණය මහාවංසය චූළවංසය කියා දෙකක්වසයෙන් බොහෝ තැන ව්‍යවහාරයි-ඒ මෙසේයි, මහානාම ස්වාමීන්විසින් ඒකාලයෙහි රජකළ මහසෙන් රජු රාජ්‍යප්‍රවෘත්තිය දක්වා ලියා තබන ලදී—නුමුත් එයින් මහාවංසකථාව අවසාන නොව නහෙයින් සතිස්වන පරිච්ඡේදය ලියා සතතිස්වන පරිච්ඡේදය ආරම්භකොට එහි මහසෙන් රජහු පවත් ලියා එය පරිච්ඡේදයක් වසයෙන් අවසන් නොකළ බව එතන්හි පරිච්ඡේදාවසාන ගාථා ඈය නැතිහෙයින් හැඟේ—එතකුදු උවත් එතන්හි "මහාවංසො නිට්ඨිතො" යනු පෙණෙයි—එය මේතාක්ම එලෙස ලියාගෙණ එන හෙයින් එතෙකින් මහාවංසය නිෂ්ඨිතය එතැන්පටන් සියක් වෙනි පරිච්ඡේදය දක්වා ලියනලද පොත චූළවංසයයි ඇතම් කෙනෙක් විසින් සලකා එසේම සමහර පොත්වල පළමුවෙනි පරිච්ඡේදය පටන් සතතිස්වන්නේ මහසෙන්රජු පවත් දක්වා ලියනලද පොතෙහි කියා තිබෙන යමක් සාධකවශයෙන් ගෙ ණහැරදක්වන කල "තෙන වුත්තං මහාවංසෙ" කියාද සතතිස් වෙනි පරිච්ඡේදයෙහි සිරිමෙවන් රජහු පවත් පටන් ලියනලද පොතෙහි යමක් ගෙණහැරදක්වනවිට "තෙන වුත්තං චූළ වංසෙ" කියාද සඳහන්කිරීම පෙණේ—මීට කරුණ "මහාවං සො නිට්ඨිතො" යි ලියනලද්ද පමණයයි හඟිමු.

පූජාවලි අවසානයෙහි "ලක්දිව රජකළ ඔටුනුපලන් රජදරු වන් සඳහන්කිරීමෙහි පළමුවන විජය රජය, උපතිස්සය" යනා දීන් දක්වා "මහසෙන්රජයයි මහාවංසයෙහි ඔටුනුපැලඳ රජ කළාවූ රජුන් තෙසැටදෙනෙකු හා චූළවංසයෙහි සිරිමෙවන් රජය" යනාදීන් දක්වා "පරාක්‍රමබාහුයයි සුළුවස රජකළ අනූ දෙනෙකු හා මෙසේවූ රජ එක්සිය පණස්තෙදෙනෙක් සිරිලක රජකළහ" යිකියනලදී-මෙයින්ද "මහාවංසො නිට්ඨිතො" යන වාක්‍යය ලියනලද ස්ථානයෙන් මැත සඳහන්කළ සිරිමෙවන් නරනිඳු ආදී රජදරුවෝ චූළවංසයෙහි රජහුයයි කියනලද්ද හුග- රජුන්ගේ වංසවසයෙන් බෙදතහොත් පියරජහු මහාවංසයටත් පිත්රජහු චූළවංසයටත් ඇතුළත් කොට බෙදීම නොහැකිවේ— තවද සිංහල රාජාවලියෙහි "සූළුවංස යන මවුපක්‍ෂයත් පියප ක්‍ෂයත් දෙකින් එකක් සූර්‍ය්‍යවංශයෙන් කලක තිබෙයි" කියාද "එකක් ශ්‍රීමහාබෝධිය ගෙණ වසත් එකක් දළදාව ගෙණ වසත් කලබැගැණිව තිබීමෙන් පැවත එන නිසාත් සඞ්ඝරත්නාය සෑඩි

මත් තෙරවරුන් නැති නිසාත්" යනාදියත් දක්වා මහවංස සූළුවංස දෙක බෙදීමට මේ හේතුයයි කියනලදී—සූර්‍ය්‍යවංශයෙන් මාතෘපක්‍ෂාදි එක්පක්‍ෂයක්වීම සඳහා ඒ ඒ රජදරුවන්ගේ මාතාපිතෘගොත්‍රයන් පරීක්‍ෂාකර බැලූකලද එය එසේම සිද්ධ නොවේ. ශ්‍රීමහාබොධිය ගෙණ කථාවෙන් යුක්ත වංශය මහාවංසය කියාත් දළදාව ගෙණවංසය චූළවංසය කියාත් වෙන්කිරීමටද කරුණු නොපෙණේ-කුමක්හෙයින්දයත් දළදාව බුද්ධශාරීරික ධාතුචෛත්‍යයකි, ශ්‍රීමහාබොධිය පාරිභොගික චෛත්‍යයකි, සඞ්ඝරත්නය සාඞ්මත් තෙරවරුන් නැතිනිසාය යන්නෙහි මහසෙන්රජහුගේ කාලයෙන් පසු එසේ බැව් ප්‍රකාශ බැවින් සාධකවශයෙන් ගැනෙන නමුත් වළගම්අබා මහරජානන්ගේ කාලයෙන් පසු මහසෙන්රජු දක්වා අතරත් එබඳුකල් පෙණෙන හෙයින් එය සර්වප්‍රකාරයෙන් සිද්ධනොවේ—තවද ඇතම්කෙනෙකුන් විසින් මහත්වූ තේජෝබලාදියෙන් යුක්තවූ මහරජුන්ගේ ප්‍රවෘත්තිකථායුක්ත කාණ්ඩය මහාවංසය කියාද, තේජෝබලාදියෙන් හීනවූ රජුන්ගේ ප්‍රවෘත්තිකථා යුක්තකාණ්ඩය චූළවංසයයි කියාද නම් වියයි සලකන ලදී—ඒත් තථ්‍යයයි නොහඟිමු කුමක්හෙයින්දයත්, මහසෙන් රජහුගෙන් පසු කාලයෙහිත් මහාවිජයබාහු මහාපරාක්‍රමබාහු ආදී රජවරු කිසිසේත් තේජෝබලාදියෙන් විජය පණ්ඩුවාසුදෙව පණ්ඩුකාභයාදි රජුන්ට හීනයයි නොකියහැක්කාහ—මහාපරාක්‍රමබාහු නරෙන්ද්‍රයා ජම්බුද්වීපයෙහි රජුන්ද මැඩපවත්වා අසදෘශාකාරයෙන් ලොකශාසනාභිවෘද්ධිකාරීව ලඞ්කාරාජ්‍යය කරවිය—එහෙයින් ඒ කරුණද මහාවංස චූළවංස වශයෙන් දෙකක් කොට බෙදීමෙහි සාධක නොවේ-මෙබඳු නාමව්‍යවහාරයක් පැවතීමට හේතුවනම් මහානාම ස්ථවිරයන්වහන්සේ විසින් තත්කාලික රජහු අවසන් කොට කරණලද පොත අවසානයෙහි "මහාවංසො නිට්ඨිතො" යි තිබෙන එකම වාක්‍යයයි හැඟේ.

ඒ මේ වාක්‍යය නිසා පැවැති ව්‍යවහාරය කොපමණ බලවත්ව පවතිදයත්-අපවිසින් මේ මහාවංසයේ ටීකා රහිත මහත් කාණ්ඩය ශුද්ධකරන්ටද එයින් පිටපත් කොට සිංහල පොතක් කරන්ටද ආරම්භකිරීමෙහි අර්ථයොජනා සිංහලභාෂා රීත්‍යාදිය දක්වා මේ මේ ක්‍රමයෙන් පොත සම්පාදනයකිරීම ලක්දිව්වැස්සන්ට මාහැඟි ප්‍රයෝජන වේදැයි සභාගී මිත්‍රාදින්ගේ මත පරීක්‍ෂාකරණපිණිස මුද්‍රාඞ්කිත පත්‍ර සතරක් ඒ ඒ මිත්‍රවරයන් කරා යවනලදී. ඒ ලැබූ මිත්‍රදෙදෙනෙකු විසින් මහාවංසයයි අපේ නාමයොජනාව අපාර්ථ කොට අපට ලැබුනේ චූළවංසයෙහි කොටස් යයි ලියා එවනලදී—මෙසේ මේ ව්‍යවහාරය සමහරුන් අතරේ

බලවත් වීනමුත් මහසෙන් රජහුගේ කාලයෙන් පසු මහාවංස
කථාව ලිවූ විචක්ෂණාචාර්‍ය්‍යවරයෝ එබඳු ව්‍යවහාරයකින් මූඪ
ත්වයකට හෝ භ්‍රමයකට සම්ප්‍රාප්ත නුවූහ—ඒ කෙසේදයත් “මහා
වංසො නිට්ඨිතො” යි ලියා තිබූනතැනින් පසුව ආරම්භකොට
තිබෙන්නේ “අසාධුසඞ්ගමෙනෙවං” යනාදි ගාථාවෙනි; එයින්
ආරම්භකොට සත්තිස්වෙනි පරිච්ඡේදය නිමවා අවසානයෙහි
“ඉති සුජනප්පසාදසංවෙගත්ථාය කතෙ මහාවංසෙ සත්තරාජ
කො නාම සත්තතිංසතිමො පරිච්ඡෙදො” තියා තිබේ—ඉම්
හෙතුවකින් මහාසෙන නරේන්ද්‍රයාගෙන් පසුකාලයෙහිවූ මහීප
තීන්ගේ ප්‍රවෘත්ති කථාසහිතශාසන ප්‍රවෘත්ත්‍යාදිය සඞ්ග්‍රහකරණ
කාණ්ඩය චූළවංසයයි ඒ ආචාර්‍ය්‍යවරයන්විසින් සලකනලද්දේ
වීනම් පරිච්ඡේදාවසානයෙහි “ඉති සුජනප්පසාදසංවෙගත්ථාය
කතෙ චූළවංසෙ” යි ලියනු යුතුවන්නේයි—එසේ නොලියා මහා
වංස යන නාමයම ලියා තිබෙන්නේ චූළවංසයයි සැලකීමට හේ
තු නැති බැවිනි.

ඉන් මතු සියක්වෙනි පරිච්ඡේදය දක්වාද සියලුම පරිච්ඡේදාව
සානයන්හි මහාවංස යන නාමයම ලියන ලදී—එහෙයින් “චූළ
වංස” යන නමැත්තාවූ පොතක් අපවිසින් නොදක්නාලදී—මේ
මහාවංසයේ ආරම්භය පටන් සත්තිස්වන පරිච්ඡේදයෙහි මැද
දක්වා මහානාමස්ථවිරයන්වහන්සේ විසින් රචනාකරණ ලදී—
එපමණ දුරට කරණලද ටීකාවද ඒ ගාථාරචනාවෙහි සුඩියද තද්
භාවයද දැනගැන්මට ප්‍රයෝජනව තිබේ.

ඉන් මත්තෙහි තිස්සත්වෙනි පරිච්ඡේදය එක ආචාර්‍ය්‍යකෙ
නෙක් කළබව සිතියහැකිවේ—අටතිස් එකුන්සාළිස්වන පරි
ච්ඡේද දෙකේ වාක්‍ය යොජනාදිය එකාකාරයෙන් පෙණේ—
ඉන්මැත කුමාරධාතුසේන රජහුගේ කථාව පරිච්ඡේදයක් කොට
අන්‍ය ආචාර්‍ය්‍යකෙනෙකුන් විසින් කරණ ලදින් එයින් ගාථා
දෙකක් තුණක් පමණ ශෙෂව තිබියදී පරිච්ඡේදය අපවත්වූ බව
සිතිය යුතුයි—ඒ අපවත්වූ පමණ කුමාරධාතුසෙන රජහුගේ ප්‍රවෘ
ත්ති විස්තරයි-ඉන් මැත එකුන්සාළිස්වන්නේ චොරනාගරජහු
ගේ කථාප්‍රවෘත්තිය පරිච්ඡේදාවසානය දක්වා ගාථාබන්ධනයේ
ක්‍රමයෙන් එපමණක් අන්‍යවූ එක් ආචාර්‍ය්‍යකෙනෙකු විසින් කළ
බැව්සිතිය යුතුයි—ඉන් මැත දෙසාළිස්වන පරිච්ඡේදය අන්‍ය
ආචාර්‍ය්‍යකෙනෙකුන්විසින් බඳිනලද්දේයයි සිතියයුතුසේ අලඞ්කා
ර සහිතව පෙණේ—ඊට අනතුරුව පරිච්ඡේද දෙකක්එක් වියයි
සිතිය යුතුසේ තෙසාළිස්වන්න නැතිව සූසාළිස්වන්න පෙණේ—
ඒ පරිච්ඡේද දෙක එක්වීමෙන් තෙසාළිස්වන්න ඌනවියයි සිති
යහැකි—සූසාළිස්වන්න පටන් පණස්වෙනි පරිච්ඡේදය අවසන්

කොට එකාකාර අලඞ්කාර යුක්තබව සිතිය යුතුව තිබේ. ඉන් මැත එක්සැටවෙනි අදියරදක්වා මහා විජයබාහු මහරජනන් ගේ ප්‍රවෘත්තිකථාව හා චතුරාජචරියාව සඞ්ග්‍රහකරණ ලද ගාථා බන්‍ධන වැඩියක් අලඞ්කාරානුගතව තිබේ.

අටසාළිස්වන්න ආදියෙහි කිසි තැනක 48—10 "උපොසථං උපවසති සඞ්ං දීපජනෙහි සො" යනාදි ගාථාවල අනුෂ්ටුප්ප්ඡන්‍දස ඉක්මෙන ලෙස නවාක්‍ෂරොපලක්‍ෂිත පාදබන්‍ධනයද පෙණේ—ඒ ගාථාවශයෙන් බඳනලදැයි හඟිමු.

මෙසේ යම්කිසි විශෙෂ පෙණෙන ඒ යොජනා වශයෙන් සප ණස්වෙනි පරිච්ඡෙදවසානය දක්වාත් ඉන් මැත එක්සැටවෙනි පරිච්ඡෙදය දක්වාත් ආචාර්‍ය්‍ය දෙනමක් විසින් කරණලද ගාථා බන්‍ධනයයි සිතිය යුතුයි—එහි මහාවිජයබාහු මහරජානන්ගේ ජීවිතකථාව අලඞ්කාර සහිත මනොඥපරිච්ඡෙදන්ද ඉතා පැහැදි ලිවශයෙන්ද පෙණේ.

සැටදෙවෙනි අදියර පටන් විහාරකාරාපනනම් අටසැත්තෑ වෙනිඅදියර දක්වා පොත එකාචාර්‍ය්‍ය පරම්පරවක කිප නමක් කළ ලෙසද ඒ කාණ්ඩයට අයිතිවූ මහාපරාක්‍රමබාහු නරෙන්‍ද්‍ර යන්ගේ චරිත්‍රකථාව එම මහරජනන් රාජ්‍යානුශාසනා කරණ කල්හිම ගාථාබන්‍ධනයෙන් කළබව සිතියයුතුයි—පණ්ඩුරටඩවි ජයනම්වූ සත්සැත්තෑවන පරිච්ඡෙදවසානයෙහි

"ඉති ජයති විචිත්‍රානනතවික්‍කනාතිසාරො
ධරණිපති කුලයොගා සො පරක්කනාතිබාහු
අනයනයවිචිතෙතාපෙතවිත්තපපචාරො
වහති ධරණිමෙකො සො චිරං සාගරන්තං." යි බඳි

නාලද මේ පද්‍යයෙහි "ජයති, වහති" යන ක්‍රියා වර්‍ත්තමාන වශ යෙන් යොදා තිබෙන හෙයින් එය ශඞ්කාරහිතව හැගේ—එහි සඳහන්වූ ද්‍රාවිඩ යුඩකථාව ඒ ඒ තැන යුඩ කරණ අමාත්‍යයන් විසින් වාර්‍ත්තාවශයෙන් ලියා එවනලද ලියුම් බලාගෙණ ඒ ප්‍රවෘ ත්ති සම්ග්‍රහකළබව ඒ ඒ යුඩකළ ගම්වලද නුවරවලද නම්හා ද්‍රාවිඩ යුඩසෙනාපත්‍යාදීන්ගේ නම්ද සම්පූර්‍ණයෙන් කියාතිබෙ නබැවින් හැගේ—තවද ඒ කාණ්ඩය මහාවංසයේ අනික් සිය ලුම කාණ්ඩවලට වඩා සංස්කෘත පද්‍යබන්‍ධනරීතියට ඉතා ආසන්න ලෙස බන්‍ධනය කොට තිබේ.

පැරකුම්බා කුමරහුගේ උපපත්තිසඞ්ඛ්‍යාත කුමාරොදය වර්‍ණ නාවද රඝුවංසයෙහි අජකුමාරයාගේ උත්පත්තිය වර්‍ණනාකළ විධියෙන් කළබැව් පෙණේ.

ඒ කාණ්ඩයට අන්තර්‍ගතවූ දෙසැත්තෑවෙනි පරිච්ඡෙදයෙහි 340 වෙනි ගාථාවේ "මං වියත්‍වං අනාසිඤ්ඤා පරක්කම මහිභූ

නො" කියා ප්‍රථමාර්ථයෙහි විතියා විභක්තිය යෙදීමෙන් අපූර්වවූ විභක්තිභෙදයක් පෙණේ—එබඳු වෙනත් විශෙෂ කිසිතැනෙක දක්නු ලැබේ—නම් දැක්වීමේදී කිසිතැනක නවාක්ෂර ගාථාපාද දිය පෙණේ-ඊලඟ එකුන්අසූවන අදියරෙහි පූර්වොක්ත විහාරකා රාපනාදියෙන් යම්කිසිවක් නැවත සංග්‍රහකරණලද හෙයින් ඒ පරිච්ඡෙදය අන්කෙනෙකු විසින් කළබව සැලකිය යුතුයි—එසේත් ඒකළ පණ්ඩිතවරයා විසින් ඒ පරිච්ඡෙදාවසානය නොකොට තිබීමෙන් වෙන කෙනෙකු විසින් එය සමාප්ත කළබව ලියාතිබෙන ඉතාපරණ පොත්වල ඒ පරිච්ඡෙදාවසානයෙහි ගාථා දෙකක් ඉතිරිව තිබියදී කුණ්ඩල කීපයක් ගසා නවතතා නැවත "නමොතස්සභගවතො" යනාදි පාඨය යොදා පොත ලියා තිබෙන බැවින් හැඟේ.

එතැන්පටන් අසූසත්වෙනි පරිච්ඡෙදය අවසන් කොට ඇති කාණ්ඩය එකාකාරව හැඟේ—ඒ කාණ්ඩය ඊට පූර්වවූ අනන්තර කාණ්ඩය පමණ මනොහර නොවන නුමුත් කාව්‍යශාස්ත්‍රාදියෙහි දක්ෂයන් විසින්ම කළබැව් සිතිය යුතුයි—එහි අසූසත්වන පරිච්ඡෙදාවසානයෙහිවූ පද්‍යයේ අන්තිම පාදය මෙසේයි. "භුවමපි අභිනියත තෙසි තස්සෙව රාජ" මෙහි යතිභ්‍රංශයක් පෙණෙනපරිද්දෙන් යම් කිසිතැනක ඡන්දොලක්ෂණාදියේ වෙනස් බැව් ප්‍රකාශයි—ඉන් මෑත දෙයානුවන පරිච්ඡෙදයේ මධ්‍යය දක්වා එකාකාර ක්‍රමයුක්තව පෙණේ—ඒ භාගය ඉතා මධුරවූ පද්‍යබන්ධනයෙන් මනොහරව තිබේ.

සත්තිස්වෙනි පරිච්ඡෙදය පටන් මේදක්වා දඹදෙණි නුවර පරාක්‍රමබාහු මහරජනන් කාලයෙහි ධර්මකීර්තිනම් එකම ආචාර්ය කෙනෙකු විසින් කරණ ලද්දේය යන ඇතම් පණ්ඩිතයන්ගේ කීමලෙස විශ්වාසකරන්ට පද්‍යබන්ධන රීතිය සෙවූ කල නොහැකි වේ—ධර්මකීර්ති ආචාර්යවරයා විසින් ඒ කාලය අවසන් කොට පොත සකස්කොළේයසි සිතිය හැකිවේ—ඉන් මෑත සියක්වෙනි පරිච්ඡෙදයේ කීර්තිශ්‍රීරාජසිංහ නරෙන්ද්‍රයන්ගේ චරිත්‍රකථාවේ අර්ධයක් දක්වූවාවූකාණ්ඩය එම මහරජනන්ගේ කාලයෙහි සෙංකඩගල නුවර විසූ ස්ථවිරකෙනෙකු විසින් ඒ මහරජනන්ගේ ආරාධනාව කරණකොටගෙණ කළබව එම කාණ්ඩයෙහි සඳහන්ව තිබේ—එසින් දඹදෙණිනුවර විසූ පරාක්‍රමබාහු මහරජනන්ගේ චරිත්‍රයෙන් මෑත නරෙන්ද්‍රසිංහ මහරජනන්ගේ කාලය දක්වා රාජපරම්පරා කථාව සම්පූර්ණයෙන් ලියා නොලැබී යම්යම් ලිපි ආදියෙන් දුකසේ සොයා ලියූබව හැඟේ—ඉන් පූර්වපරිච්ඡෙද සියල්ලම මහාකාව්‍ය සඟිබන්ධනය පිණිස අලඞ්කාර ශාස්ත්‍රයෙහි කියනපරිද්දෙන් මුලපටන් එකම අනුෂ්ටුප්ඡන්දසේ

අෂ්ටාක්ෂරපාදයුක්ත වෘත්තවලින් බන්ධනයකොට පරිච්ඡේදාවසා
නයෙහි අන්‍යවෘත්තයකින් පද්‍යයක් හෝ දෙකක් හෝ පමණ
බන්ධනය කොට සර්ගසමාප්තිය දක්වා තිබේ—මේ කාණ්ඩයෙහි
එසේ නොව තැනින් තැන අන්‍යවෘත්ත යෙදීමෙන් පරිච්ඡේද
යෙක බොහෝ තැන හෙදකොට තිබේ—ඡන්දෝලක්ෂණ නො
සලකාම ගාථාබන්ධනය කළාක්මෙන් හැගේ—ව්‍යාකරණ ලක්ෂ
ණාදියද බොහෝ තැන විරුද්ධවීමෙන් හා පුනරුක්තාදියෙන්
තියනලද වාර්තාව නුමුත් තත්වූ පරිද්දෙන් හඟිනු නො
හැකිසේ පෙණේ—ඒ ගාථාබන්ධනය කළ කාලයනම් ලඞ්කාද්වීප
යෙහි පැවැති නානාවිධ ශාස්ත්‍ර හා ත්‍රිපිටකයේ අභිවෘද්ධිය සීතා
වක රාජසිංහ රජ්ජුගේ කාලයෙහි පසුබැස්මට ගියායින් පසු
යහපත් වර්ධනයක් නැතිව තිබී වර්ධනයට ආරම්භ කරණ
අවස්ථාවයි.

එහෙයින් ඒ රාජචරිත්‍රය මෙපමණ දැනගන්ට පූළුවන් පම
ණින් ගාථා බන්ධනයකොට තැබූ බව ඉතා සමර්ථතාවක් කොට
සිතිය යුතුවනු පමණක් නොව වර්තමානකාලිකජනයාට බල
වත් ප්‍රයෝජනයකි, කීර්ත්තිශ්‍රීරාජසිංහනරේන්ද්‍ර චරිත්‍රයෙන් භා
ගයක්හා රාජාධිරාජසිංහ මහරජානන්ගේ චරිත්‍රයද ශ්‍රීවික්‍රම
රාජසිංහරජ්ජුගේ ප්‍රවෘත්තිකථාවද තවත් වෙනස්විරකෙනෙකු
විසින් කරණලදී. එය සියක්වෙනි පරිච්ඡේදයේ අන්තිම කො
ටසයහා අවසාන පරිච්ඡේදයෙහි තිබෙන ගාථාඑකුන්තිසත් පම
ණයි—ඒ කොටසත් ව්‍යාකරණ ඡන්දෝලක්ෂණාදියෙන් ඌනව
තිබේ—මෙතෙකින් මහාවංශනම්වූ ලඞ්කාකථාමහා ප්‍රකරණය
නිමවනලදී.

පරිච්ඡේදොනතාදිය මෙසේයි.

මෙහි එකුන්සාළිස්වන පරිච්ඡේදය අවසන්වූ තැන එක්සාළිස්
වන පරිච්ඡේදය ගලපන ලදී—එසින් සතළිස්වෙනි පරිච්ඡේදය
නැතිවූ බව හැගේ—අප විසින් ලඞ්කාවේ නානා ජනපදවලින්
සපයන ලද පොත් එකොළසක් පමණ බලනලද නුමුත් ඉන්
එකකවත් සතළිස්වනපරිච්ඡේදයක් නොපෙණේ—එකුන්සාළිස්
වන පරිච්ඡේදයෙහි සීගිරිකසුප් රජ්ජුගේද, මුගලන් රජහුගේද
චරිත සඞ්ග්‍රහකරණලදී—එක්සාළිස්වන පරිච්ඡේදයේ කුමාරධා
තුසෙන කීර්ත්තිසේන සිව ආදී රජ නවදෙනෙකුන්ගේ චරිත්‍ර
සඞ්ග්‍රහකරණ ලදී—පූජාවලි, රාජරත්නාකර, සිංහල රාජවලි
ආදියෙහිද, සීගිරි කසුබ්රජහට අනතුරුවූ, මුගලන්, කුමාරදාස,
කීර්ත්තිසේන ආදී පිළිවෙළින්ම රාජපරම්පරාව සඞ්ග්‍රහකොට
තිබේ—ඉන්නිසා එකුන්සාළිස්වන පරිච්ඡේදයේ අවසානයෙහි
තියනලද මුගලන් රජානන්ටද එක්සාළිස්වන පරිච්ඡේදයේ

ආරම්භයෙහි කියනලද කුමාරධාතුසේන මහරජානන්ටද අතර
වෙනයම් රජකෙනෙක් ලඞ්කාරාජ්‍යය නොකළ බවත් එබඳු රජ
කෙනෙකුන්ගේ රාජචරිත්‍රයක් ලියා තිබුන පරිච්ඡේදයක් අභාව
යට නොගිය බවත් ශංකාරහිතව හැඟේ—කවර කථාවක් අභා
වයට ගියේදයත්? ලඞ්කාද්වීපයෙහි රාජ්‍යසමෘද්ධිකරණයෙන්ද
ශාසනශොධනවශයෙන්ද ශාස්ත්‍රවර්ධන වශයෙන්ද බොහෝ
කටයුතුකළ නරේන්‍ද්‍රයන් අතුරෙන් එක එක රජකෙනෙකුන්ගේ
චරිත්‍රයට පරිච්ඡේද කීපයක් වශයෙන් සඞ්ග්‍රහකරණලදී—කුමා
රදාසයයි ලොකප්‍රසිද්ධ කුමාරධාතුසෙන නමින් මහාවංසයෙහි
කියනලද නරේන්‍ද්‍රතෙමේ ජානකීහරණාදි කාව්‍යබන්ධන කළාවූ
අටලොස්මහ විහාරයක් කරවා අටලොස් මහවැවක් බැන්දවූ
ධම්මසඞ්ගායනාවක්ද කරවූ විස්තරවශයෙන් දීර්ඝකොට කිය යුතු
චරිතයක් ඇති මහරජ කෙනෙකි.

ඒ සඳහා රාජරත්නාකරයෙහිද. පැරකුම්බාසිරිතෙහිද කියන
ලද ප්‍රශංසාවලින් එය හැඟෙන්නේ නමුදු මහාවංශයෙහි එක්
සාළිස්වන පරිච්ඡේදයෙහි මූලගාථා තුනකින් ඒ මහරජානන්ගේ
චරිතය කියන ලදී—එහෙයින් ඒ මහරජානන්ගේ චරිතය ප්‍රකා
ශකරණලද පරිච්ඡේදයක් අභාවයට යාමෙන් සතළිස්වන පරි
ච්ඡේදයෙහි ඌනතාව වියයි සිතිය යුතුයි—එසෙත් එක්සාළිස්වන
පරිච්ඡේදයෙහි කුමාරධාතුසේනනම් රජහුගේ චරිතය සංක්‍ෂෙප
කොට කියන ලදක්සේ ඒ ගාථා තුනෙන් වැටහේ—එය පරි
ච්ඡේදයක් අඩුවූ පොත බලා ශුද්ධකරනනාවූ යම්කිසි පණ්ඩිත
කෙනෙක්විසින් ගැලපෙනසේ යොදන ලද්දේයයි සිතියයුතු—
එක්සාළිස්වන්න අටඨරාජකනම්වූ නමුත් රජ නවදෙනෙකුගේ
චරිතය පෙණෙන හෙයින්ද කුමාරධාතුසෙන රාජචරිත විස්තරය
අපවත්වියයි හැඟේ—ඊලඟ තෙසාළිස්වෙනි පරිච්ඡේදයක්ද
නොපෙණේ-දෙසාළිස්වන පරිච්ඡේදයෙහි වනාහි අග්බෝ සුළු
අග්බෝ යන නරෙන්‍ද්‍ර දෙදෙනෙකුගේ චරිත දක්වන ලදී--තද
නන්තරවූ සඞ්ඝතිස්සරජහුගේ චරිතය තුසාළිස්වන පරිච්ඡේදා
රම්භයෙහි කියන ලදී—එහිදු පරිච්ඡේදවය අතර අන්‍යවූ රාජ
චරිතයක් නොපෙණේ-දෙසාළිස්වන පරිච්ඡේදයෙහි කියනලද
සුළුඅග්බෝ රජතෙමේ මහාශ්‍රද්ධාධනසයෙන් යුක්තයෙකි; එහෙ
සින් ඒ නරේන්‍ද්‍රයාවිසින් කරණලද පින්කම් සඞ්ග්‍රහකොට බන්ධ
න්‍යකරණලද පරිච්ඡේදය තෙසාළිස්වෙනිව තිබී අභාවයට ගි
යේයයි සිතිය යුතුයි—එසේත් ලඞ්කාරාජ පරම්පරාව දක්වනලද
වෙන පොත්වල පෙණෙනා පරිද්දෙනුත් මෙහි රාජපරම්පරා
කථාවේ ඌනත්වයක් නොවනහෙයින් මේ වංසකථාවේ අසම්පූ
ර්ණත්වයක් නොපෙණේ—සතළිස් සත්වෙනි පරිච්ඡේදයද

නැති, අටසාළිස්වන පරිච්ඡේදය පෙණේ තිබේ—එසේවී තිබෙන්නේ මාණවම්මරජහුගේ චරිතයෙන් අවසානවන සත්සාළිස්වන පරිච්ඡේදයේ අවසානගාථා කීපයක් කිසියම් පරිච්ඡෙදකින් නැතිවීමෙන් අටසාළිස්වන පරිච්ඡේදයෙහි සඞ්ග්‍රහයට පැමිණී අග්‍රබෝධිරජහුගේ චරිතය හා මිශ්‍රවීමෙන් සත්සාළිස් අටසාළිස්වන පරිච්ඡේද දෙක එකට ලියවීමෙනි—ඒ දෙකෙන් සත්සාළිස්වන්නේ අඩුවූ ගාථා කීපය නැති තැනයයි හැඟෙන තැනින් පරිච්ඡේදය වෙන්කොට දක්වන ලදී—අටසාළිස්වන්නෙහිද කසුප්රජහුගේ චරිතයෙන් ස්වල්පයක් අඩුවූ බව පෙණේ—හෙද අපවිසින් දක්වාඇති.

ඉන් ඔබ්බේ එක්සැත්තෑවෙනි පරිච්ඡේදය අඩුවී තිබේ—ඒ ගැණ හැඟෙන්නේනම් එක්සැත්තෑවෙනි දෙසැත්තෑවෙනි පරිච්ඡේදදෙක එකතුවී එක්සැත්තෑවෙනි පරිච්ඡේදයේ අවසාන ගාථා කීපයක් අපවත්වූ බවයි—එහි පරාක්‍රමබාහු මහරජානන්ගේ ප්‍රථමාභිෂේකයේ අවසානවර්ණනාවෙන් ස්වල්පයක් අඩුවූ බව පමණක් හැඟෙන නුමුත් ඒ රාජචරිත්‍රයේ ඌනත්වයක් නො පෙණේ.

අනූවෙනි පරිච්ඡේදයෙහි බලවත් විශේෂයක් පෙණේ. එනම් එහි සපණස්වෙනි ගාථාව දක්වා කොයි පොත්වලත් සමානභාවය පෙණෙන නුමුත් සත්පණස්වෙනි ගාථාව පටන් සූසැටවෙනි ගාථාව දක්වා පොත් දෙකොටසක දෙයාකාරයක් තිබේ—ඒ එසේවී තිබෙන්නේ පූරාණව තිබුනු ඒ ගාථා කීපය අභාවයට පත්ව තිබුනාවූ පොතක් බලාගෙණ ඉන්මත්තාට මහාවංශ කථාව ලියන්ට ආරම්භකළ ආචාර්‍ය්‍යකෙනෙක් විසින් ඒ අඩුවූ ටිකත් සිංහලෙන් ලියා තිබුනු යම්කිසි පොත්වල අනුසාරයෙන් පූර්ණකිරීමට ගාථාබන්ධනය කළ නුමුත් ඒ ගාථාකීපය අඩුනැතිව තිබුනු පොතක් වෙන තැනක තිබී ලැබුනහෙයින් ඒ පරම්පරා දෙකේම පොත් ලියවීගණ ආනිසායයි සිතම්හ. ඒ දෙයාකාරයෙන් ගාථාශුද්ධියෙන් වඩාඋසපත් අර්ථාන්විත ගාථා ඇති ඉතාපූරාණ පොත්වලින් ලැබුනු ගාථාපිළිවෙල අපේපොතේ යොදා අනික් පරම්පරාවේ තිබෙන ගාථා කීපය අධොලිපිවශයෙන් යොදාලීමු—පොත බලන්නන් විසින්ද එයින් අනවද්‍යපරම්පරාව මේයයි නිශ්චයකරණුලැබේවා.

වන්නිභුවනෛකබාහු ආදිකොට ජයවර්ධනකෝට්ටයෙහි විසූ ශ්‍රී පරාක්‍රමබාහු මහරජානන්ගේ කාලය දක්වා සෙංකඩගල නුවර විසූ ශ්‍රීකීර්ත්තිශ්‍රීරාජසිංහ මහරජානන්ගේ කාලයෙහි ගාථාබන්ධනය කරණලද රාජචරිත්‍රයන්හි අසම්පූර්ණත්වය පෙණේ—එස සිංහලරාජවලි පොත්වලද අනාකූලසම්පූර්ණත්වයකින් නො

පෙණේ—එසේත් ඒ පරිච්ඡේදයන් මෑතකාලේ කරණලද හෙයින් හිසි ඌනතාවයක් නැනැතිව තිබේ-සියක්වෙනි පරිච්ඡේදයෙන් මත්තෙහි ලියනලද ගාථාසඞ්ලපයේ පරිච්ඡේදාවසානයක් නොපෙණෙන නුමුත් ඒ එකසියඑක්වෙනිකොට යෙදූයෙමු. නුමුත් අවසානය නොපෙණනහෙයින් අපේවාක්‍යයන්හි පරිච්ඡේදයක්වශයෙන් සඳහන් නොකළෙමු. ප්‍රවෘත්තිවිශෙෂ—දීපවංශයෙහි වනාහි බුදුන් පිරිනිවීමෙන් අවුරුදු සියයක් ගිය කල්හි කළ ද්විතියධර්මසඞ්ගීතිය විසාලාමහනුවර කූටාගාරශාලාවෙහි කරණලද්දේයයි කියනලද්දේනුමුත් මෙහි වාලුකාරාමයෙහියයි කියන ලදී—මෙහි තීම අටුවාදියහා සමවේ “කපපති සිඞ්ගිලොණකපෙපා” යනාදින් බුඩදේශනාවට විරුඩව දශවස්තුව ඉපදවූ වජ්ජිපුත්තකභික්ෂූන්විසින් කරණලද මහාසඞ්ගීතියෙහි ප්‍රවෘත්තිය දීපවංශයෙහි පමණ මහාවංශයෙහි විස්තරවසයෙන් නොපෙණේ--ඔවුන්විසින් අභිධර්මයද පරිවාරපාඨයද පදභාජනීයද තවත් ඇතම් ජාතකාදියද හැරදමා ධර්මසඞ්ගායනා කළබැව් දැක්විමෙහිලා දීපවංශයෙහි මහාවංශයෙහි නොකියනලද විස්තර රාශියක් කියනලදී.

මෙහිපෙණෙන රාජපරම්පරායෙහි ගණතිස්සනම් රජකෙනෙක් සිංහලරාජවලිආදියෙහි කියනලදී—රාජවලියෙහි ගණතිස්සරජතෙමේ පණ්ඩුකාභයරජහුගේ පුත්‍රයයිද හෙතෙම පණ්ඩුකාභය රජහට ඉක්බිත්තෙන් සතළිස්හවුරුද්දක් රජකෙළේයයිතීද කියනලදී—අභය පණ්ඩුකාභය යන නරෙන්ද්‍ර දෙදෙනාඅතර රාජශුන්‍යවූ සතළොස් හවුරුද්දට ඉක්බිතිතෙත්‍යයි රාජරත්නාකරයෙහි කියනලදී—එතකුදු වුවත් දීපවංශයෙහිද මහාවංශයෙහිද අභයරජහට ඉක්බිත්තෙන් සතළොස්හවුරුද්දක් ලඞ්කාද්වීපය රාජශුන්‍යව තිබුනකල පණ්ඩුකාභය කුමාරයා රජවූ බවද ඔහු ඇවෑමෙන් ඔහුපිත් මුටසීවකුමාරයා රජවූ බවද කියනලදහෙයින් ඒ අතර ගණතිස්සනම් නරෙන්ද්‍රයෙක් නුවූබැව් ප්‍රකාශයි—එසේත් පණ්ඩුකාභය රජහුගේ කාලය සැත්තෑහවුරුද්දක් කියනලදහෙයින් ඒ අතර තවත් රජකෙනෙක් රජකළ කාලයත් සමග එපමණ හවුරුදුගණන්වියයි සිතියයුතුසේද වැටහේ.

බුඩ වර්ෂ 656 පමණ කාලයෙහි ලඞ්කාරාජ්‍යය කළ ගජබාහු නරෙන්ද්‍රතෙමේ පියරජ කල සොළීරජහුවිසින් ලඞ්කාවෙන් හැර ගෙණගිය සිරවහල් දොළොස්දහස පොලිත් සමග ගෙණෙන පිණිස නීලායොධයා කැටිව යගදාවෙන් මුහුදුදීය දෙබේ කොට පිටිපතුල් නොතෙමා සොළීරට ගොස් වැලිමැඩ දීඝගැණීම්ආදී වික්‍රමකොට සොළීරජහු බියගන්වා එහි ගෙණයනලද සිංහල

යන්ට පොළිපිණිස සොළීන්ගෙණ සුවිසිදහසක් සිරවාලූන් ගෙ
ණයේයයි සිංහළරාජවලියෙහි කියනලදී—ඒ සඳහාම පැරකුම්
බාසිරිතෙහි උරතෙලේ ගෑ සඳුන් නොමකා මූහුදපීනා එතරගි
යේයයි කියනලදී–බුඩ වර්‍ෂ 1670 ව පමණ කාලයෙහි රජකළ
දෙවෙනි ගජබා මහරජානන් සඳහා පැරකුම්බාසිරිතේ එය කිය
නලදයේත් සිතියහැකිවේ—මහාවංශයෙහි ඒරජදෙදෙනාගේම
චරිතයන්හි එබන්දක් සඳහන් නොවේ—ධාර්‍මික ශ්‍රීසඞ්ඝබොධි
නරෙන්‍ද්‍රොත්තමයාගේ චරිතය මහාවංශයෙහි සඞ්ග්‍රහකළතන්හි
ඒ නරෙන්‍ද්‍රතෙම මගියාට හිස දෙනු කැමතිව හිඳගණ මෙළේය
එකල මගීතෙම හිස කපාගෙණ ගියේයයි කියනලද්දේවිනුමුත්
අත්තනගලූවංසයෙහි ඒ නරෙන්‍ද්‍රතෙම හිසගලවා මගියා කැඳවා
දුන්නේයයි කියනලදී—කුමාරධාතුසේන නමින්ද කුමාරදාශ
නමින්ද ප්‍රකාශවූ මහරජානන් කල සඞ්ඝමිත්‍රනිකායවාසී දුෂ්ටශ්‍රම
ණයෙක් තිල්වතක් පෙරවගෙණ. රාත්‍රිභාගයෙහි වෙශ්‍යාවාස
යට ගොස් ආරාමයට එනකල්හි දුටුවන්විසින් විචාළකල ඒ වෙ
ශයම වර්‍ණනාකිරීම්ආදියෙන් බුඩශාසනයට අපරාධ කළබව
ශාසනාවතාරාදියෙහි කියාතිබෙන නුමුත් එය මහාවංශයෙහි
සඳහන්ව නොපෙණේ, හෙද අපවිසින් පරිච්ඡෙදනාමය දැක්වූ
තන්හි සඞ්ග්‍රහකොට තිබී ඒ සඞ්ග්‍රහකළ පරිච්ඡෙදය අපවත්වී
මෙන් වූ ඌනතාවය කැයි සිතිය යුතු—මේආදියෙන් වෙන පොත්ව
ලින් දතහැකිවූ කිසියම් ලඞ්කාරාජ්‍යශාසන ප්‍රවෘත්තීන්ගේ ඌන
තාවයක් පෙණේ.

සවෙනි භුවනෙකබාහු නරෙන්‍ද්‍රයානන්ගේ කාලයෙහි රාම
ඤ්ඤදිරටවල බුඩශාසනය අශුඩව සඞ්ඝයාගේ සඞ්ඝකර්‍මාදීයද
අපිරිසිදුව තිබූනහෙයින් ධවලගජපති රාමඤ්ඤ මහරජානන්
විසින් රාමදූත චිත්‍රදූත යන නමැති රාජදූත දෙදෙනෙකු සමග
නැව් දෙකකින් සැව්ර විසිදෙනමක්හා සාමණෙරවරයෝද භුව
නෙකබාහු මහරජානන් වෙත සුවර්‍ණපත්‍රරාජසන්දෙශ දී එවන
ලද්දාහ—එයින් චිත්‍රදූතයා නැගී ආවාවූ නැව යොගාභිධානනදී
මුඛයෙන් නික්ම මාසයක් ගෙවනට පළමු කොළඹතොට පත්
විය—රාමදූතයා නැගි ආවාවූ නැවින් ආ සැව්රාදීහූ වැලිගම්පටු
නට පත්වූහ—ඒ කාලයෙහි ගුරුවීනම් එක් සිංහලාමාත්‍යයෙක්
තෙම භුවනෙකබාහු මහරජානන්ට විරුඩ දමරිකයෙක්ව වැලි
ගම විසූයේය, ඔහුසමග යුදකරණු පිණිස මහරජානන්ගේ මල්
කුමාරතෙම යොධාරූඪවූ බොහෝ නැව් කැටිකොට ගෙණ
වැලිගම්තොට පත්විය එකල ගුරුවීනම් දමරිකතෙම ඒ කුම
රුහා යුදකරණු නොහැකිව බියෙන් වල්වැන, ඔහුගේ පක්ෂ
යෙහි ජනයන්විසින් වැලිගමහා ජයවර්‍ධනපුරය අතර මාර්‍ගික

ජනයන්ට අනතුරය කරණහෙයින් ඒ රාජකුමාරතෙමේ රාමඤ්ඤ
රටින් වැඩී සඞ්ඝයාහා රාජදූතාදීන්ට අවසර නොදී ටිකකලක්
එහිම වැස්විය ; ඉන්පසු අවසර ඇතිව ජයවර්ධනපුරයට ඒ ස්ථවි
රයෝ පැමින ඊට පූර්වභාගයෙහි කොළොම්තොට පැමින ජය
වර්ධන පූරප්‍රාප්ත ස්ථවිරාදීන්හා කැටිව භුවනෛකබාහු මහරජා
නන්විසින් කරණලද සත්කාර ලබාගෙණ ලඞ්කාද්වීපවාසි සඞ්ඝ
යාගෙන් ලබාගන්ට අභිමතවූ උපසම්පදාකර්මය කල්‍යාණිනදී
යෙහි සැදූ උදකුක්ඛෙපසීමායෙහිදී සම්පාදකොට ගෙණ රමණ
රට ගොස් සිතගජපති මහරජානන්ගේ සත්කාරයෙන් ඒ රටේ
උපසම්පදාදී කර්මකොට බුද්ධශාසන වර්ධනයකළෝය යන මේප්‍රවෘ
ත්තිය කල්‍යාණීප්‍රකරණයෙහි විස්තරවශයෙන් ආනුමුත් ඒ ගැණ
කිසිවක් මහාවංශයෙහි ප්‍රකාශනොවේ—ඒ භුවනෛකබාහු මහ
රජානන්ගේ චරිතකථාවෙහි ඒ මහරජානන් කාලයෙහි එබඳු ද
මරිකයෙකුගේ වියවුලක් පැවැති බැව් හෝ මහාවංශයෙහි නො
පෙණේ—එසේවූයේනම් ඒකාණ්ඩය ගථාබන්ධන කරණකාල
යේ ඒප්‍රවෘත්ති ලියනලද ලිපි නොලැබුන බැවිනැයි හගිමු—මෙ
සේ මහාවංශයෙහි පෙණෙන රාජචරිත්‍රාදීන්ට වෙනස්වූ යම් යම්
ප්‍රවෘත්ති වෙන පොත්වල පෙණෙතුදු, එහි නොකියනලද
ප්‍රවෘත්ති යම් යම් පොත්වලින් දකින්ටලැබෙතුදු ලංකාවේ මහා
වංශයසේ තත්වූපරිද්දෙන් සඞ්ග්‍රහකරණලද රාජචරිත්‍රාදිය ඇති
වංශ කථා පොත්ක් වෙන රටක නැතිසේ බොහෝපණ්ඩිතයන්
විසින් සලකන ලදී—කාශ්මීර රාජතරඞ්ගිණී ආදිය මෙපමණ
ශුද්ධලෙස සඞ්ග්‍රහ නොකරණලද බැව්ද ප්‍රකාශයි—දඹදිව ප්‍රවෘ
ත්ති දැනගැන්ම පිණිසද මේ පොත මහොපකාරියි.

මේ කාලයෙහි ලඞ්කාවේ රාජනීති පවත්වන්නාවූ අධිකරණ
නායකාදීන් විසින්ද පූරාණලඞ්කාචරිත්‍ර දැනගන්නා පිණිස
මහවංශයෙහි සඞ්ගෘහීත ප්‍රවෘත්ති අවබොධකටයුතුයි-ලඞ්කාවේ
ආගමප්‍රවෘත්ති රාජචරිත්‍රාදිය අවබොධකරණුකැමැත්තන් විසින්
සර්වප්‍රකාරයෙන් මේ ග්‍රන්ථය අවබොධ කටයුතුයි.

ඒබැව් සැලකූ ජෝර්ජ් ටර්නර් නම් ඉංග්‍රීසි මහතානන් විසින්
මෙය ඉංග්‍රීසිභාෂාවට නගණුපිණිස මහාවංශයහා එහි ටීකාවද
සපයාගෙණ සෙංකඩගලනුවර පුෂ්පාරාම භයගිරි යන උභය
විහාරවාසීවූ සමස්ථස්ථවිරයන්ගේ උපකාර ලබාගෙණ ටීකාව
ඇතිතාක් දුර, එනම් සතිස්වෙනි පරිච්ඡේදය දක්වා ඉංග්‍රීසියට
නගා ටීකා රහිත පරිච්ඡේදයන්ද ඉංග්‍රීසියට නගන අදහසින්
තව පරිච්ඡේද දෙකක් ශුද්ධකරන්ට උත්සාහකොට සම්පූර්ණ
යෙන් ශුද්ධකරණු නොහැකිව අශුද්ධස්ථාන අශුද්ධත්වයහා ඌන
ත්වය හැගෙනසේ සලකුණු යොදා සංක්ෂෙපයෙන් ඒ පරිච්ඡේද

දෙකෙහි භාවයද ඉංග්‍රිසියට නගා මුද්‍රාඞ්කණය කරවන ලදී—
එයින් දඹදිව සහ ලඞ්කාවීපයේ ඉතා වැදගත් ආගමප්‍රවෘත්ති
රාජචරිත යුරෝපීය පණ්ඩිතයන්ටත් දැනගන්ට ලැබුනහෙ
යින් අපරභාගයෙහි ප්‍රවෘත්ති දැනගන්ටත් ඒ පණ්ඩිතයන්ගේ
මහත් අභිලාසයක් තිබෙනහෙයින්ද, ලඞ්කාවාසී ශාස්ත්‍රා
ග්‍රහණයෙහි නියුක්තයන්ගේත් එබඳු අභිලාසයක් තිබෙන
හෙයින්ද මෙම පොත සිංහලට නගාගැන්ම හා ඉංග්‍රිසියට නගා
ගැන්මෙහි අභිලාස ඇත්තාවූ ඇතම් සුධීන්විසින් එසේ කරන්ට
උත්සාහකළ නුමුත් ටීකාවක් නැතිව බොහෝකල් අතින්
අතට ලිවීමෙන් හා අන්තරයෙන් උනන්ධාදියවීමෙන් ආකුලවූ
පොත ශුද්ධකරගැන්මම ඉතා උගහට බැවින් එය ප්‍රපඤ්චයට
පත්ව තිබෙන කලැ වර්ෂ 1871 කේදී දොන්අන්ද්‍රිස්ද සිල්වා බටු
න්තුඩාවේ පණ්ඩිතයානන්විසින් ඒ පොතේ තත්වාවබෝධයට
යෝග්‍යවනසේ ශුද්ධකොට දෙවනාගරාක්ෂරයෙන් මුද්‍රාඞ්කණය
කරවා දෙනපිණිස සර් විලියම් හැන්රි රොබින්සොන් ලඞ්කෙ
ශ්වරවූ උතුමානන්ගෙන් ඊට උපකාර ඉල්වනලදී—ඒ ඉල්ලීම
සැලකියයුතුබැව් ඒ උතුමානන් විසින් සඳහන්කර තිබෙන කල්
හි, වර්ෂ 1874 රේදී අති වංශාධිපති සර් විලියම් හෙන්රි ග්‍රෙගොරි
ලඞ්කෙශ්වරයානන් විසින් මේ කටයුත්තේ ප්‍රයෝජනත්වය සල
කා එඞ්ගලන්තයෙහි පාලිසංස්කෘතාදිය පුහුණුකළ පණ්ඩිතවර
යන්ගේ මත පරීක්ෂාකොට ඒ මතානුකූලව මේ කටයුත්ත කරව
නු කැමැතිවූයේ මෙහි සඳහන්කළ පණ්ඩිතයානන් කැඳවා මේ
පොත වරදින් ආකුලබැවින් තත්වාවබෝධය නොකළහැකි බැව්
එහි ස්වභාව දන්නා උගතුන්ගෙන් මට දැනගන්ට ලැබී තිබෙසි,
එහෙයින් ප්‍රථමයෙන් පොත ශුද්ධකොට සිංහලකරවා එය සිංහ
ලෙන් ඉගෙණගන්නන්ගේ ප්‍රයෝජනයට පවත්වන්ටත් නැවත
ඉංග්‍රිසියට නංවා යුරෝපීයජනයන්ට ප්‍රයෝජන වනසේ පවත්ව
න්ටත් අභිප්‍රාය කරණලද්දේය—මෙසේ ව්‍යාකූලවූ පොතක් ශුද්ධ
කිරීමෙහි එකම පණ්ඩිතකෙනෙකුගේ මතයෙන් සම්පාදනය
ට වඩා දෙදෙනෙකුගේ මතසංසන්දයෙන් කිරිම යොග්‍යය ඒගැණ
උඹ හැර මාවිසින් සලකනලද පණ්ඩිතවරයා සුමඞ්ගල නායක
උන්නාන්සේය, උන්නාන්සේත් සමග පොත බෙදාගණ සුධ
කොට සිංහලටත් පොතක් ලියාදෙන්ට හැකිදැයි විචාළවිට යෙ
හෙකැයි උත්තරදුන්හෙයින් මෙහි සඳහනකළ හික්කඩුවේ සුම
ඞ්ගලාභිධාන නායකාචාර්යයන් කැඳවා බටුවන්තුඩාවේ පණ්ඩි
තයානන් සමග මහාවංශය ශුද්ධ කොට සිංහලට පොතක් ලියා
දීම කරණු හැකිදැයි විචාළවිට මාවිසින් නිබඳ කරණුලබන කට
යුත්තක්ව තිබෙන්නේ අභිනව භික්ෂූආදීන්ට ඉගැන්වීමය, මේ

කාලයෙහි එම කටයුත්ත බහුලවශයෙන් කෙරෙණ හෙයින්
මට තිබෙන අවකාශ කාලය ඉතා ස්වල්පය එසේවීනුමුත් හවත්
ලඬකගවරයානන්ගෙන් පනිවුඩ වෙන මෙය ලොකශාසන
වයටම ප්‍රයෝජනවත් කටයුත්තක් හෙයින් අවකාශ ඇති
පමණින් කරණු කැමතියයි උත්තර දුන්හෙයින් නැවත දෙ
දෙනම කැඳවා මේ පොතේ සතිස්වෙනි පරිච්ඡේදය දක්වා
ටීකාව සහිතවූ කාණ්ඩය ජෝර්ජ් ටර්නර් නම් මහතුන් වි
සින් ඉංග්‍රිසියට නගා තිබෙන හෙයින් දතයුතුදේ සාමාන්‍ය
යෙන් ඉංග්‍රිසි පණ්ඩිතයන්ට දැනගන්ට ලැබී තිබෙයි එතැන්
පටන් ටීකාවක් නැතිව තිබෙන අනන්තිමදක්වාවූ කාණ්ඩය ඉක්
මනින් දැනගණු කැමති නිසා ප්‍රථමකොට එය ශුඩකොට සිංහල
කටයුතුය—පූර්වභාගය නැවත කළහැකියයි නියම්කොට ඒ
ගැණ ආණ්ඩුවවිසින් කටයුතු වියදම් මේ බටුවන්තුඩාවේ පණ්ඩි
තමහත්මයා සමග ගණුදෙනුවශයෙන් කරගණිමුය මේ පණ්ඩි
ත දෙපල විසින්ම පොත ද්‍රසනනාපරිදෙඳකින් බෙදාගෙණ ශුඩ
කොට එකකෙනෙක් ශුඩකළ කාණ්ඩයද සිංහලකළ කාණ්ඩයද
අනික් පණ්ඩිතවරයාටත් පෙන්නා නැවත මතසංසඳනය කොට
අවසන්කිරීමෙන් පොත කළමැනවැයි වෂී 1874 රේ මැයිමස
21 වෙනි දින නියෝග කරණලදී—ඒ නියෝගය පිළිගත් අප
විසින් පොතේ ශුඩ්ය සොයනපිණිස නානාප්‍රදෙශවල මහාවං
ශය පිටපත්කර තිබෙන පොත් බලනු පිණිස සත්කෝරලයේ
රිදීවිහාරය, සෙංකඩගල නුවර, ගිරිවායේ මූල්ගිරිය, මාතර,
ගාලල, බෙන්තොට, පානදුරය, සල්පිටිකෝරලය යනාදි ස්ථාන
වලින් සපයනු හැකි තරම් පරණපොත් එකොළසක් සපයවා
එයින් සයක් බොහෝසෙයින් ඒකාකාරව පෙණුනනිසා පස්ක්
හැරදමා පොත් සයක් නොහැර අනික් පසෙනුත් අභිමතයක්
විටින්විට ගණිමින් සංසඳනයකර බලන්ට ගනිමු. ඒ පොත් අතු
රෙන් රිදීවිහාරයෙන් ගෙන්වාගනනාලද පොත වර්ෂ සියයකට
වැඩි කල්ගිය පොතකැයි සිතියයුතුසේ පරණව තිබේ-අම්පිටියේ
විහාරයෙන් ගෙන්වනලද පොතද කොලොන්නාවේ විහාරයේ
තිබී ලබාගත් පොතද අවුරුදු සියයකට ආසන්නලෙස පරණයි.
ඒ පරණපොත්වල ලියවී තිබෙන්නේ අනූවෙනි පරිච්ඡේදයෙහි
103 වෙනි ගාථාව දක්වායි. අන්තිම කාණ්ඩය කීර්තිශ්‍රී රාජ
සිංහ මහරජනන් කාලයෙහි කරණලදැකි—මේ සියල්ලෙන්
බලාත් ඌනපූරණය කරණු නොහැකි තැන් අන්‍ය ග්‍රන්ථවල පෙ
ණෙන කාරණානුසාරයුක්තියුක්තකාදිය සලකා පූරණය කළෙමු.
නොයෙක් පිටපත්වල පෙණෙන නානාපාඨයන් අතුරෙන්
අතිශයෙන් සුතුසේ වැටහෙන පාඨ යෙදුයෙමු—මේ පොත අනූ

පදිකවශයෙන් සන්නාකිරීමෙන් ලඞ්කාකථාව ඉගෙණගන්නන්
ට ප්‍රයෝජන නොවන හෙයින් භාවබොධක සිංහලව්‍යාඛ්‍යානයක්
කිරීම යහපතැයි ලඞ්කෙශ්වරාදි උත්තමයන්ගේ මතානුකූලව
එසේ කෙළෙමු— පොතේ පාඨසොධනය කොට යන්ත්‍රශාලාවේ
අන්තිම ලගට අධිකාණය කළායින් පසු මේමේ අශුඬවද ඌන
ත්වයෙන් යුක්තවද තිබෙන ගාථා යම් කෙනෙක් විසින් පිළිගත
යුතුසේ ශුඬ කොට නම සඳහන්කොට එවුවොත් ඒපිළිගත
යුතුනම් ස්තුතිකොට අපේ ශුඬියට වඩා හොඳයයි නම සංශු
පනයෙහි සඳහන්කරණබැව් කියා කාණ්ඩ දෙකක් ලක්රිවිකි
රණේ ප්‍රසිඞකරවූයෙමු— නමුත් ඉත් එක ගාථාවක්වත් කිසිකෙ
නෙක් විසින් ශුඬකොට දැක්වීමක් නොකරණලදී.

අපේ සිංහලකිරීමෙහි බොහෝ තැන ව්‍යඤ්ජනාර්ථයම නො
දක්වා ආදිමධ්‍යාවසානවශයෙන් පෙණෙන භාවය ප්‍රධානකොට
අර්ථ දැක්වූ බවද ගාථාබන්ධසුඛය පිණිස යොදනලද යම් යම් වච
න නැතිකලද සිංහලාර්ථය මනාලෙස ගැළපෙන තන්හි එසේ
පෙණෙන තත්ශබ්දාදිය හා පාදපූරණාදිය පිණිස යොදන ලද
නිපාතාදියද යම්කිසිතැන නොගන්නාලදහ; එය පණ්ඩිතයන්
විසින් සැලකිය යුතුයි. පරිච්ඡෙද ගාථාසඞ්ඛ්‍යාව පෙන්වන
ඉලක්කම් සිංහලසන්නයෙහිදු යොදනලදහෙයින් එයින් ගාථා
ර්ථාවබොධය පහසුවේ— ප්‍රමාදාදියෙන්වූ ඌනත්වාදියක් දක්නා
පණ්ඩිතයෝ ඉවසමින් නැවත පූරණාදියෙහි අනුකූලවෙත්වා.

"දොෂඃ කෘතො සුමතයො මම කො'පිචෙත් ස
යූෂමාභිරත්‍ර කෘපයා විනිවාරණීයඃ
ආර්තාඃ ඛගාඃ සමවලොක්‍ය සවර්ගබාධාං
නිඃශඞ්කිකා අපිකුවන්ති යතඃ සමන්තාත්."

මේශ්ලොකය වාසවදත්තාව්‍යාඛ්‍යාවෙන් ගන්නාලදී.

# ශුද්ධ පත්‍රය.

## ERRATA.

---

සංශුපනයෙහි.

| පිට. | පෙළ. | අශුඩ. | ශුඩ. |
|---|---|---|---|
| v | 12 | ලදදේත් | ලද්දේත් |
| ix | 4 | බන්ධන | බන්ධනය |
| xiii | 11 | ඔබ්බේ | මෑත |
| ,, | 16 | චරිත්‍රයේ | චරිත්‍රයේ |
| ,, | 30 | පිළිවෙල | පිළිවෙළ |
| xiv | 2 | නැනැතිව | නැතිව |
| ,, | 22 | යසිතීද | යසිද |
| ,, | 24 | මගා | මහා |
| xv | 2 | හළ | හල |
| xvi | 15 | ගථා | ගාථා |
| ,, | 21 | පොත්ක් | පොතක් |
| ,, | 23 | ප්‍රවා | ප්‍රවා |
| ,, | 30 | ජෝරිජ් | ජෝර්ජි |
| xvii | 31 | පණ්ඩිත | පණ්ඩිත |
| xviii | 24 | එකොළසක් | එකොළසක් |

මහාවංසයෙහි.

| පිට. | පෙළ. | අශුඩ. | ශුඩ. |
|---|---|---|---|
| 6 | 11 | එසේම | එසේම මේතෙමේත් |
| ,, | 29 | නුවර | මේ නුවර |
| 7 | 18 | දළධාතුවට | දන්තධාතුවට |
| ,, | 39 | ඒ සතර | සතර |
| 9 | 25 | හොවන්නේ | (හොවන්නේ) |
| 10 | 4 | අන්ධයන්ට | අන්ධයන්ට ශාලාද |
| ,, | 10 | අබරණින් | රජඅබරණින් |
| ,, | 34 | සහළු | මටසහළු |
| 11 | 6 | හොදකදීය | හොජකදීය |
| ,, | 7 | ලද්දේ | ලද්දේ එයගත |
| ,, | 17 | පිත් | පිත් සූරවූ |
| ,, | 35 | රජ | රජී |

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 12 | 12 | සේ | සේ මනහරකොට |
| ,, | 15 | තන්හි | තන්හි එකල දියඉසිමින් |
| ,, | 33 | කිපියේ | කිපිසේ |
| 13 | 32 | ඇති | ඇතිවී |
| 14 | 30 | කියා අටුවා | කියා සොභාකෙලේය-අටු [වාවහා |
| 15 | 9 | සපනරාජික | පවරාජක |
| ,, | 16 | උහු | ඉක්බිතිඋහු |
| 16 | 5 | සියල්ලෝ | සියලුජනයෝම |
| ,, | 20 | ඒක් | කිපි එක් |
| 18—* | 17* | | |
| 19 | 4 | සිව්රු | සිව්රුආදිය |
| 20 | 17 | පිළිගැන්විය | හුන්නේය |
| ,, | 25 | දූතයෝ | සෙවකයෝ |
| ,, | 29 | ලද්දියයි | ලද්දියයි තුටුපහටුවූයේ |
| 21 | 9 | මහණුහු | මහණහු |
| 22 | 24 | නිමතත | නිමිතත |
| 26 | 5 | ඇත්කුඹ | ඇත්කුඹ දෙඅත්තබා |
| ,, | 17 | සමණන්ගේ | සමණන්ගෙ පෙරදිග [වෙහෙරින් |
| 30 | 32 | දින | ඒකලදින |
| 31 | 22 | සෑගිරිගලත් | සෑගිරියෙත් |
| ,, | 28 | විහාරයෙහි | ථූපයෙහි |
| 35 | 14 | අත් | අත |
| ,, | 25 | පින්වත | පින්වතුනි |
| 39 | 18 | ආයුක්ෂයට | ආයුඃක්ෂයට |
| 40 | 2 | ඇතිදූවෝත් | දනායකොටත් |
| 41 | 28 | ආසා | ආසය |
| 46 | 10 | අග්බෙ | අග්බෝ |
| ,, | 26 | දිරාගිය | දිරාගිය වෙහෙරද |
| 47 | 10 | බෝහෝ | බොහෝ |
| ,, | 22 | දින | ඊටදින |
| 49 | 3 | කුමරෙකු | හත්ථදාඨනම් කුමරෙකු |
| ,, | 13 | (දනානම්) | (හත්ථදාඨ) |

* අවශිෂ්ට පාඨසඞ්ග්‍රහය බලනු ඊට මේ ලකුණයි.

| පිට. | පෙළ. | අශුඬ. | ශුඬ. |
|---|---|---|---|
| 51 | 11 | කර්මයක් | කර්මයක්ඕහට |
| ,, | 14 | ඇමැතියෝ | ඒ ඇමැතියෝ |
| 53 | 4 | කවරෙක් | කවර මනුෂ්‍යයෙක් |
| ,, | 11 | තැන් | සැත |
| 55 | 2 | ආරාමයද | උතුම් ප්‍රධානගෘහයද |
| ,, | 22 | යැවි | යවා |
| 57 | 15 | (ඈත්කුස්) | ඈත්කුස් |
| 63 | 24 | උඹු | උඹු සුදුසුසේ |
| 65 | 27 | පෝහො | පොහෝ |
| 66 | 8 | සජ්ජිත* | සජ්ජිත |
| 69 | 31 | වූ හෙතෙමේම | වූයේම |
| 75 | 9 | දෑරටු | ඉක්බිතිදෑරටු |
| ,, | 29 | කොට | කරවා |
| ,, | 33 | තැබ්බවී | තිබ්බවා |
| 77 | 8 | කෙළේය | කරවී |
| ,, | 31 | මෙහයි | මෙහෙසි |
| ,, | 38 | ඒ | ඒ මහායසස් ඇති |
| 78 | 4 | පිත්වූ | පිත්කනිටුවූ |
| ,, | 17 | වේව | වෙව |
| 79 | 1 | මඩාලාබී | මණ්ඩලාබි |
| ,, | 29 | පවත් | දෙසයෙහි පවත් |
| 81 * | 8* | | |
| 83 | 23 | මළකල | මළකල භික්ෂූන්ට |
| ,, | 30 | නැගිය | නැංගිය |
| 84 | 3 | පිරිත් | නුවරපිරිත් |
| 85 | 28 | කරවා | කරවී |
| 87 | 28 | දේසය | මේදේසය |
| 88 | 14 | තලතෙල් | තලතෙල්මී |
| ,, | 18 | බැගින් | බැගින් සිවුරුපිණ්ඩ |
| 95 | 2 | (සත්සියයක් යනු වැඩියි) | |
| ,, | 8 | වෙසෙති | විසූහ |
| ,, | 9 | බුනු | මුනු |
| ,, | ,, | රාජ | ශුඩවංශවූ රජ |
| 96 | 7 | මුගලන් | නුවනැති මුගලන් |
| ,, | (48 පටන් ඉලක්කම් විමසා ගතයුතුයි.) | | |

* වෙන කීපතැනකත්.

| පිට. | පෙළ. | අශුඬ. | ශුඬ. |
|---|---|---|---|
| 97 | 4 | දේවමල්ල | මහබලැති දේවමල්ල |
| ,, | 22 | ඉතා | එකල ඉතා |
| 102 | 15 | සතුරු | බොහෝසතුරු |
| ,, | 19 | ග්‍රහණය | ග්‍රාහණය |
| 104 | 14 | රජුවෙත | මීතුරු රජුවෙත |
| 106 | 23 | වසන්නේ | එහිවසන්නේ |
| 107 | 2 | මාගම | මාගම තුන්නිකාහි |
| 108 | 29 | දෙමළ | කෲරදෙමළ |
| 109 | 18 | තෙමේ | පොළොන්නරුවෙන් [එන්නේ |
| 110 | 18 | කොරෙහි | කෙරෙහි යුදයෙහි |
| I12 | 11 | චරයන් | සියචරයන් |
| 112 | 24 | වැසනයෙන් | වැසනයෙහි |
| ,, | 29 | රාජනි | රාජිනි |
| 115 | 28 | ඉපදවිය | හෙතෙම ඉපදවිය |
| 117 | 17 | ආයස්තවයෙහි | ආයස්තාවයෙහි |
| ,, | 17 | දින | දෙවි |
| ,, | 31 | බිඳවූහ | බින්දූහ |
| 118 | 9-10 | ආයේය | ගියේය |
| 119 | 12 | පැමිනිමෙන් | වහාපැමිනිමෙන් |
| 120 | 26 | තමාකෙරෙහි | තමාකෙරෙහි ප්‍රියමිත්‍ර [යෙකු කෙරෙහිසේ |
| 122 | 2 | කරන්නාහු | කරන්නාවූ භවත්හු |
| 126 | 7 | සැරසෙන | මොනවට සැරසෙන |
| ,, | 15 | නෑණෑතිකුමර | නෑණෑතියේ |
| I28 | 18 | ගියේය | වහාගියේය |
| 129 | 25 | මෙහයන | මෙහෙයන |
| 132 | 12 | ඇතොකු | වෙනනම් ඇතෙකු |
| ,, | * 22 * | | |
| 133 | 2 | පිරිස් | සියපිරිස් |
| 138 | 3 | මන්ත්‍රණයට | එහි මන්ත්‍රණයට |
| 139 | 28 | පැවැත්වි | පවත්වා |
| 140 | 12 | දලවිටි | දවිලවිටි |
| ,, | 18 | බැඳවී | සිංරජයෙහි බැඳවී |
| 142 | 8 | මූණුබුරන් | මුනුබුරන් අධිපතිතෙමේ |
| ,, | 23 | සාරතැන් | සියල්සාරතැන් |
| 143 | 9 | බියකරුවූ | බියකරුවූ මිනිසුන් භක්‍ෂ [ණයකරකරන්නාවූ |

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 144 | 11 | ශැන්ති | ශන්ති |
| 149 | 14 | කරවී | අඹුවෙන් කරවී |
| 150 | 22 | මඟා | මග |
| 154 | 1 | ළුහුබැන්දේය | මහායෝධයන් ළුහුබැන් [දේය |
| 155 | 17 | උහුට | නැවත උහුට |
| ,, | 35 | යන | සෙන්ද යන |
| 156 | 2 | එන | වහා එන |
| ,, | 14 | ලැවීය | ලවා |
| 157 | 7 | කෙශධාතු | කෙශධාතුනායක |
| ,, | 17 | නා | නා මහසෙන් සමග |
| ,, | 35 | බදැන්දේය | බැන්දේය |
| 158 | 11 | ගොස් | වහා ගොස් |
| ,, | 13 | කුමරුන්ද | කුමරුන්ද ධනයද |
| 159 | 10 | කොට | කොට නැවැත |
| ,, | 23 | එකල්හී | එකල්හි ඒබස්අසා |
| 162 | 16 | නිල්ගිර | එහි නිල්ගිර |
| 164 | 37 | මෙන් | මෙන් එයින් |
| 165 | 8 | ඉක්බිත්තෙන් | ඉක්බිත්තෙන් එක්කලෙක |
| 166 | 2 | ඉක්බිත්තෙන් | ඉක්බිත්තෙන් පැමිනි |
| ,, | 7 | මහාත්‍යයන් | මහාමාත්‍යයන් |
| ,, | 36 | කළ | කල |
| 167 | 4 | (නවත්වා යනු වැඩිසි) | |
| ,, | 17 | කල්හි | කල්හි නැවැත |
| 169 | 36 | පමන | පමණ |
| 170 | 25 | සෑදූයේය | ඒ්තැන යෙදූයේය |
| 171 | 4 | විසූහ | සෙන්සමග විසූහ |
| ,, | 30 | කාරණයෙහි | කාරණකාරණයෙහි |
| 172 | 30 | සොර | සොරආදි |
| ,, | 35 | තෘන | තෘණ |
| 176 | 28 | පවත්වති | පවත්වමින් |
| 177 | 13 | පූලසති | පූලස්වී* |
| 179 | 17 | පරිද්දේන් | පරිද්දෙන් |
| ,, | 7 | බෙහෝ | බොහෝ |
| 187 | 1 | ප්‍රසාදයට | ප්‍රාසාදයට |
| ,, | 18 | මයා | මැයා |

| පිට. | පෙළ. | අශුඩ. | ශුඞ. |
|---|---|---|---|
| 190 | 22 | නැතත් | නැතෙත් |
| 192 | 6 | ෂෙස | ශෙෂ |
| ,, | 15 | තොමෝ | තොමෝද |
| I92 | 29 | වූහ | වී |
| 198 | 26 | උක්කුට්ටී | උක්කුඞී |
| 199 | 25 | * 244 * | |
| 200 | 27 | කිතුල්වල්ගම් | කිතුල්ගම් |
| 202 | 7 | කැමැත්තේ | කැමැත්තෝ |
| 210 | 28 | සමඟක් | සමඟග් |
| 211 | 29 | මුසල | මුෂල |
| 213 | 10 | අඩ | අඩු |
| 215 | 3 | අසා | දූන |
| ,, | 18 | විලලවාරයර | විලලාවාරයර |
| ,, | 25 | පලුඩිය | පලුදිය |
| ,, | 33 | යුතුයයි | යුතුයයි සිතා |
| 217 | 20 | මානාරය | මානාරයරය |
| ,, | 30 | මානා | මානව |
| 218 | 22 | පෙන | එෙණ |
| 219 | 28-29 | අළුතනුර | අළුත්නුරු |
| 220 | 30 | කුණ්ඩලා | කුණ්ඩල |
| ,, | 35 | ලඞ්කානාථ | ලඞ්කාපුර |
| 221 | 7 | මධුරවෙහි | මධුරවෙහි වැසි |
| 222 | 24 | මොවුන්ටද | මොවුන් සියල්ලන්ටද |
| ,, | 27 | ආකල | ගියකල |
| 223 | 32 | යන | යනමේ |
| 224 | 1 | බලනායකයා | බලනායකයාට |
| ,, | 8 | එකල | එකල නියොජකවූ |
| ,, | 11 | ගෙණ | ගෙණ නැවැත |
| 225 | 28 | කොට්ටනම් | කොණ්ඩනම් |
| 226 | 15 | යුධාඩගම | යුඩඩගම |
| ,, | 26 | තොඩමානර | තොණ්ඩමානාර |
| ,, | 27 | නිගල | නිග |
| 227 | 4 | සියලෙලා් | දෙමළ |
| 228 | 12 | වීරපෙපර | වීරප්පේරය |
| 230 | *27* | | |
| 231 | 11 | (ඉලක්කමක් අඩුයි) | |
| 231 | 20 | නික්ලඩ | නික්ල |

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 231 | 26 | තිරික්ඛාන | තිරික්ඛානු |
| 232 | 8 | තිරික්ඛානපෙරු | තිරික්ඛානුපෙර |
| 233 | 14 | බමුනන්ට | බමුණන්ට |
| 534 | 9 | මෞද්ගල්ලායන | මෞද්ගල්‍යායන |
| ,, | 22 | එහෙයින් | එකල්හි |
| 235 | 2 | රනන | රතන |
| 235 | 13 | උයනෙහි | එහි උයනෙහි |
| ,, | 16 | පිරිකරද | නොයෙක් පිරිකරද |
| 236 | 33 | ඒ රජතෙමේ | සව්බරණින් සැදි ඒ රජ තෙමේ) |
| 237 | 26 | අටවිසි | අටළොස් (ඉලක්කමක් වැඩිසි) |
| 238 | 26 | සතරක් | තුණක් |
| 240 | 34 | රොපණය | හෙතෙම රොපණය |
| 241 | 35 | වැව්ද | වැව්ද කළුවැල්නම් වැවද |
| 242 | 7 | මාතිකා | මහාමාතිකා |
| 243 | 37 | කොළේය | කරදූයේය |
| 244 | 6 | විසසක් | සවිසසක් |
| ,, | 7 | විසසක් | විසිතුණක් |
| 245 | 20 | සතුටු | සැමකල් සතුටු |
| 247 | 9 | කෙත්හා | කෙත්පිරිකරහා |
| ,, | 18 | හවුරුද්දක් | දිනක් |
| 250 | 3 | එසේම | යලි එසේම |
| ,, | 25 | නිධාන | භූමිගතකොට නිධාන |
| 252 | 18 | දුන්නේය | සතාසාදුන්නේය |
| ,, | 28 | සියල් | අනික්සියල් |
| 253 | 5 | විමසා | තෙමේ විමසා |
| 254 | 24 | දෙවෙනි | බබලන දෙවෙනි |
| 255 | 32 | මේලො | බුද්ධානුභාවයෙන්ම මේලො |
| 257 | 3 | ප්‍රමොදය | ප්‍රමොද |
| 258 | 25 | ඒ සවිතීය | ඒඒ සවිතීය |
| 259 | 24 | පූජ | පූජද |
| 261 | 7 | ආජීවාදී | ඍජුභාවාදී |
| ,, | 28 | නිමවා | කොට නිමවා |
| 263 | 22 | හෙබියාවූ | හෙබි තුණුරුවන්ගුණ [දත්නාවූ |
| 264 | 8 | මෙමසේම | මෙසේම හික්මියේ |

| පිට. | පෙළ. | අශුඞ. | ශුඞ. |
|---|---|---|---|
| 264 | 9-10 | ප්‍රණීතාහාර | ආහාර |
| ,, | 26*—27* | | |
| 265 | 1 | එසේම | එසේම දැන්එය |
| ,, | 19 | කරණ | කරවන |
| 267 | 22 | ඒ ගෙහි | ඒ රජගෙහි |
| ,, | 25 | තනා | නානා |
| 268 | 4 | (සෙසු යනු වැඩියි) | |
| ,, | 5 | පින් | සියල්පින් |
| 268 | 9 | මට | මටදැන් |
| 269 | 21 | බැඳවී | එකල බැඳවී |
| 270 | 9 | අසූසතරරියන් | අසූසරියන් |
| ,, | 25 | කපපවා | කරවා |
| 271 | 22 | දිගාන්තරය | දිශාන්තරය |
| 272 | 8 | අවවාද | හෙතෙම මෙසේ අවවාද |
| 273 | 26 | ජනයා | ජනයන් |
| 274 | 24 | උහුට | මෙසේ උහුට |
| ,, | 26 | සරසවා | සරසව |
| ,, | 30 | කරවා | කරව |
| 276 | 9 | උපසථානකෙළේය | වැඩවී |
| ,, | 22 | වඩාගෙණවුත් | පවරා |
| 278 | 14 | බලඇති | බලඇත්තේ |
| 285 | 22 | ඇවැමෙන් | ඇවැමෙන්ද |
| 287 | 1 | ඉක්බිත්තෙන් | එකල ඉක්බිත්තෙන් |
| ,, | 29 | දවසක් | හෙතෙම දවසක් |
| 290 | 20 | ජිණිණා | ජීණිණ |
| 291 | 14 | විජය | ජය |
| ,, | 24 | කොළෝ | කළෝ |
| 292 | 2 | විර | වික්‍රම |
| 292 | 9 | චඞ්ක්‍රමණශාලා | චඞ්ක්‍රමණ මණ්ඩපප්‍රාකාර [ශාලා |
| ,, | 3 | වජීයෙහි | වජීයෙහි ප්‍රශූවිරගුණ [යන්ට මන්දිරවූ |
| 294 | * 20* | | |
| 296 | 2 | අසූසත් | පන්ලක්ස |
| 298 | 23 | පුරයෙහි | පුරවරයෙහි |
| 300 | 21 | කුමරහට | කුමරසිහට |
| 301 | 18 | සංකළ | සන්කළ |

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 304 | 8 | වඩා | වැඩීය |
| 311 | 14 | වූයේ | වූරජතෙම |
| 312 | 23 | කරවි | මොනවට කරවි |
| 314 | 11 | පවත්වමින් | නොයෙක්ජේ පවත්වමින් |
| | | | (මෙතැන් පටන් ඉලක්කමක් දුරුවී) |
| 316 | 3 | පටා | පට |
| ,, | 11 | ෂාවෙන් | ෂාදිවූ |
| 318 | 6 | රජ්ජූන්සේ | රජ්ජූම |
| ,, | 14 | පැමිනා | පැමිනා නැවැත නැවැත බලා |
| ,, | 29 | සම්පත් | මහ සම්පත් |
| 319 | 11 | සතුරන් | බියෙන් පෙළුන සතුරන් |
| ,, | 20 | ප්‍රකාර | ප්‍රකාරයෙන් |
| ,, | 36 | ධීරයෝ | කිසි ධීරයෝ |
| 320 | 4 | වෛරීන් | එකෙණෙහි වෛරීන් |
| ,, | 29 | වැඳ | හිසින් වැඳ |
| 321 | 1 | වෙසෙමින්ම | වෙසෙමින්ද |
| ,, | 3 | ඒ | එහි |
| ,, | 13 | වසමු | පුරයෙහිම වසමු |
| ,, | 28 | (යහපත්වණ්ණ ඇති යනු වැඩිසි) | |
| 323 | 2 | දෙඹනා | දෙඹ |
| 324 | *34* | | |
| 325 | 23 | රක්ෂිත්වසි | රක්ෂිත්ව |
| 326 | 6 | පැමිනි | ඔවුන් පැමිනි |
| ,, | 8-9 | නුවනැති | නුවනැත්තෝ |
| ,, | 27 | යහපත් | යහපත් උතුම් |
| ,, | 36 | පූණ්‍යකාමී | පූණ්‍යකාමී මහයසැති |
| 327 | 10 | රාජ | උත්තමරාජ |
| ,, | 14 | ඒ | ඒමහීපති මනුජෙන්ද්‍රවූ |
| ,, | 24 | දෙමින් | දෙවමින් |
| 328 | 25 | සඞ්ග්‍රහාදීන්අනුරෙන් | සඞ්ග්‍රහාදිවූ |
| 329 | 11 | දහම් | දහමුත් |
| ,, | 16 | හෙරණ | උතුම්හෙරණ |
| ,, | 36 | තෙමේ | මහ යසසැති රජතෙමේ |
| 330 | 13 | කරන්නෙමැයි | මොනවටකරන්නෙමැයි |
| ,, | 26 | බුද්ධදංෂ්ට්‍රා | මනොඥබුද්ධදංෂ්ට්‍රා |

| පිට. | පෙළ. | අශුඞ. | ශුඞ. |
|---|---|---|---|
| 331 | 24 | රත්පටින් | ඒ පිළිරුව රත්පටින් |
| ,, | 26 | බිත් | ගල්බිත් |
| 332 | 6 | සිතින් | රජතෙමේ සිතා |
| ,, | 37 | ශුඞා ඇත්තාවූ | ශුඞරවූ |
| 334 | 24 | පිළිරුත් | මුහුත්තාමුනිආදි පිළිරුත් |
| ,, | 37 | සිත්තමින් | සිත්තමින් කරවි |
| 335 | 3 | එඟි | එඟි වැඩහුන් |
| ,, | 7 | රහත් | සියගණින් රහත් |
| ,, | 9 | භූතරූපයන් | භූතරූපාදින් |
| ,, | 25 | ජනයා | ජනයෝ |
| 336 | 4 | අසා | අස්වා |
| ,, | 16 | උළුසෙවෙනි | උළුසෙවෙනි ආදිය |

ග්‍ර න්ථි ප ද වි ව ර ණ යෙ හි.

| | | | |
|---|---|---|---|
| 340 (මඃණකයේ)මහාංශය | | | මහාවංශය |
| ,, | 14 | *for,* | *for* |
| ,, | 19 | dangers | danger |
| 341 | 10 | A | Ā |
| 344 | 21 | උක්කුසී | P. උක්කුසී |
| 346 | 5 | උවරණ &c. | උවරණ & |
| 347 | 9 | *c. n.* | *c. n. m.* |
| 348 | 24 | *pro.** | *prop.* |
| 349 | 11 | skilfull | skilful |
| ,, | 23 | කෙලින් | කෙළින් |
| 351 | 8 | *nt.* | *nt. m.* |
| 352 | 3 | water | of water |
| 353 | 23 | A kind of torture තුළාරුළුහ | Tortured by suspending bythe hands & hanging weight on the feet. P. තුලාරුළුහ |
| 354 | 3 | *n.* | *f.* |
| 356 | 6 | Wicked | Being wicked |
| 358 | 22 | පිළු | පිළු |
| 360 | 9 | Assembling | An assembling |
| 360 | 17 | to the woman, or to a lying in | for the lying in of women |

* 354 (වෙනි පිට දක්වා) තව කිපතැනකත් මෙසේයි.

| පිට. | පෙළ. | අශුද්ධ. | ශුද්ධ. |
|---|---|---|---|
| 362 | 16 | A weapen thrown by the hand, &c. | The end of a hollow weapon thrown by the hand. |
| 364 | 20 | round | called |
| 366 | 15 | unction | unction or coronation |
| 369 | 1 | *c. n.* | *c. n. m.* |
| ,, | 19 | මණ්ඩ scum. | මිඩි dish. |
| 374 | 3 | lesson | lessons |
| 376 | 34 | සූ | P. සු |
| xv | 1 | ගෙණ | ගෙණ |

මේ ඇරත් නොපෙණීගිය බොහෝ අක්‍ෂර විරොධාදිය ඇතී බැව් හඟිමු. ඒ දක්නා විචක්‍ෂණයෝ මෙහි ශ්‍රමය සිතා ඉව සත්වා.

පසුව ලියනලද සූචිපත්‍රාදියට ශුද්ධිපත්‍රයක් නොකළහෙයින් එහි යම් අක්‍ෂර විපරීතාදියක් දැක ශුද්ධකරගණීත්වා.

## අවශිෂ්ට පාඨසඞ්ග්‍රහය.

ඁ8 වෙනි පරිච්ඡේදයෙහි 57 වෙනි ගාථාවේ අර්—මහබෝ පිහි ටීමෙන් මෑත දෙළොස්වෙනි හවුරුදු දක්වා ලක්දිව රජ දරුවෝ බෝපුදකරවූහ.

52 වෙනි පරිච්ඡේදයෙහි 14 වෙනි ගාථාවේ චිතියාර්ධයේ අර්—වස්ත්‍රසහිතවූ පිළිමබතක්* සියලු භික්ෂූන්ට දෙවූයේය.

66 වෙනි පරිච්ඡේදයෙහි 155 වෙනි ගාථාවේ අපරාර්ධයේ අර්—ඒ ඒ ලියන්නන්ගේ වශීයන්ට අනත්‍යගීතව තොපි ලියව්යයි.

74 වෙනි පරිච්ඡේදයෙහි 244-245 වෙනි ගාථා දෙකේ අනන්‍ය පූර්වාර්ධ දෙකේ අර්—මේ පිණෙක මේ ප්‍රඥවෙක මේ සර්ඥ යන්ත්‍රොරෙහි භක්තියෙක, මේ යසසෙක, මේ තේජසෙක, මේ වික්‍රම විශෙෂයෙක.

77 වෙනි පරිච්ඡේදයෙහි 52 වෙනි ගාථාවේ අපරාර්ධයේ 'කතිං' යන්නගැර අර්—පරාක්‍රම පණ්ඩුරාජතෙම මෙහි ආයේයයි. (මෙය එතැනට වැඩිසේද හැගේ.)

85 වෙනි පරිච්ඡේදයේ 47 වෙනි ගාථාවේ අර්—අසත්නවුන් සිත්ගන්වා සදහම් දෙසන්නාවූ ධර්මකථිකයන්ගේ දහම් ගොසින් ශබ්දකරණලද්දවූ (මේශුද්ධපාඨයි)

92 වෙනි පරිච්ඡේදයේ 4 වෙනි ගාථාවේ අපරාර්ධයේ අර්—ඒ ඇවැමෙහි භුවනෙකබාහුනම් රජෙක්විය.

100 වෙනි පරිච්ඡේදයෙහි 40 වෙනිද ඉන් පූර්වයෙහි එක්තැනෙකද මේ දක්වනු ලබන ගාථාව පෙණේ. කිසිසේත් ශාසත්‍රක්‍රමයෙන් නොයෙදේ නුමුත් එහි අභිප්‍රායාර්ථය මෙසේ වියයුතුයයි සලකා සන්නය ලියූවෙමු. 40 ගේ ඉලක්කමේ පෙණෙන ගාථාව 41 වෙනි කොට පිළිවෙළ දතයුතු.

> ජනතාහිත කතමෙවහි මනුජාධිප මහිමං
> ජිනසාසන සුපතිඨිත විවිධාම්තකුසලං
> වසුධාධිප කුලභූසන ගුණභූසන මහිමං
> ජයතාඛිල ජයතාඛිල ජයතාඛිල සුචිරං

මෙය යම්කිසිගෙවක් විසින් පොතකින් අමුතුවෙන් ගෙණ ලියන ලදැයි හඟිමු.

---

* පිළිමවහන්සේ පුදා භික්ෂුසංඝයාට නැවැත දෙන බතයයි හඟිමු.

## මේ පොතේ අක්ෂරවින්‍යාසයෙහි පෙණෙන ප්‍රභෙද හැඟවීමයි.

---

න, ණ, දෙකද—ල, ළ, දෙකද යෙදීමෙහිලා යම් තැනෙක 'නැණ' කියා නැවැත තැනෙක 'නැන' කියා යොදා තිබුනා දක්නා ඇතම්කෙනෙක් මේ එකිනෙකට විරුඬය දොෂයයි හඟිත්. සංස්කෘත භාෂාවේ ප්‍රඥණ-ප්‍රඥන-යනාදීන් විකල්පදක්වා තිබෙන පරිද්දෙන් සිංහල භාෂාවෙහිද විකල්ප පෙණේ—ඤාණ යන මාගධික ශබ්දයෙන් බිඳුන ශබ්දය නැණ කියාවේ, ඥාන, යන සංස්කෘත ශබ්දයෙන් එය බුන්කල 'නැන' කියා යෙදෙන හෙයින් විකල්ප කළහැකිවේ. පාපුණාති යන පාලික්‍රියායෙන් භින්නව 'පැමිණෙයි' කියාද, ප්‍රාපෙනොති යන සංස්කෘතක්‍රියායෙන් බුන් සේ එය 'පැමිනේ' කියාද වියහැකිවේ. මේ ක්‍රමයෙන් විකල්පයෙන් වියහැකි ශබ්දයන් යෙදෙනතන්හි න, ණ, දෙකද, එබඳුතැන ල, ළ, දෙකද විකල්පයෙන් යොදන ලදී. පාලි සංස්කෘත ධාතුපත්‍යාවූද ද්‍රවිඩභාෂාදියෙන් ගන්නාලද් දුවුද සංඥ ශබ්දයන් සම්බන්ධතන්හි පූරාණ පොත්වල පෙණෙන භූයොවෘත්තියෙන් යොදන ලදහ—සංස්කෘත භාෂාවෙහි යුක්තපරාක්ෂරය සේම හස්පරාක්ෂරයද ව්‍යවහාර කරණු ලබනසේ සිංහල භාෂාවෙහිද හලින් පෙරටු අකුරසේම සංයුක්තයෙන් පෙරටු අකුරද ගුරක්වශයෙන් වීම යෝග්‍ය බැවින් ඒසේ පූරාණ ව්‍යක්තයන්ගේ ශිලාලෙඛනාදියෙහි පෙණෙන හෙයින් ඒකාස්ථානිකාක්ෂරයන්ගේ බඩාක්ෂරද යොදනලද බැව් භා තිසීතැන හින්දිභාෂාදියෙන් ගෙණ සිංහල භාෂාවේ යොදන ලද ශබ්දද තදනුරූපාක්ෂරාන්විතකොට යෙදූ බැව්ද දතයුතු.

---

## ABBREVIATIONS OF THE GLOSSARY.

| | | | |
|---|---|---|---|
| *a.* | Adjective. | P. | Páli |
| *abl.* | Ablative. | *p.* | Past. |
| *acc.* | Accusative. | *p. par.* | Past participle. |
| *adv.* | Adverb | *par.* | Participle. |
| *c. n.* | Compound noun. | *par. a.* | Participle adjectiv |
| *f.* | Feminine | *per.* | Person, |
| *gen.* | Genitive. | *plu.* | Plural |
| *imp.* | Imperative. | *pr.* | Present. |
| *int.* | Interjection. | *prop. n.* | Proper name |
| *inst.* | Instrumental. | Sk. | Sanskrita. |
| *m.* | Masculine. | *sing.* | Singular. |
| *n.* | Noun. | *tr.* | Transitive. |
| *nt.* | Neuter | | |

### දැන්වීමයි.

මහාවංසයේ ප්‍රථම පරිච්ඡේදය පටන් සතිස්වෙනි පරිච්ඡේදය අවසන් කොට ඇත්තාවූ කාණ්ඩයත් සිංහලකොට අවසන්වූ කල්හී තවත් විස්තර සහිත පටුනක් හා ග්‍රන්ථිපදවිවරණයක්ද කරණ අදහසින් මේවර සංක්‍ෂෙපයෙන් කරණ ලදී. ග්‍රන්ථිපද විවරණය වනාහි සිංහල ව්‍යාඛ්‍යානයෙහි පෙණෙන දුර්බොධයයි විඥමිත්‍රකෙනෙකුත් විසින් ලකුණුකොට දුන් ශබ්ද සඞ්ග්‍රහකිරීමෙන් සම්පාදනය කරණලදී. ස්වල්ප විශෙෂයකින් වෙනස්වූ ශබ්ද දෙකක් ඇති කල්හි පොතේ බොහෝ තැන යෙදුන ශබ්දය ගන්නා ලදී, අනික එයින් සුබොධයි. සිංහල ශබ්දය දක්වා තදර්ථවාචකවූ පාලි ශබ්දයක්දක්වන්ට ඕනෑකලේ මහාවංශයෙහි යෙදුන ශබ්දයන් දක්වනු පිණිසයි. පද විපර්‍යාශ ඇති සමාසවල ප්‍රකෘතිය යොදන ලදී. බොහෝ සේ සංස්කෘත ශබ්දයන් දක්වන්ට කල්පනා කලේ ඒ ශබ්දයන් බෙහෙවින් ව්‍යාඛ්‍යානයේ යෙදුනහෙයින් හා අභිනවයන්ට අභිමත හෙයිනි. ඉඞ්ග්‍රිසි තේරුමක් දක්වන්නට යෙදුනේ ඉංග්‍රිසි සමග සිංල උගන්වන ශාස්ත්‍රශාලාවල උදග්‍රහණය කරණ තරුණයන්ගේ ප්‍රයෝජනය පිණිසයි. නාමශබ්දයන්ගේ ප්‍රකෘති මුල්කොට ගෙණ අවශ්‍යයෙන් දැක්වියයුතු විශෙෂ සමග අක්වන ලදී. ක්‍රියා ශබ්දයන්ගේ දෘශ්‍යමාන රූප මුල්කොට ගෙණ දක්වන ලදී. සමාසවූ නාමශබ්දයන් අතුරෙන් දුර්බොධ ශබ්දයන්ගේ අවයව දක්වන ලදහ. සුබොධ ශබ්දයන්ගේ සමාසවූ ශබ්ද වෙන්කිරීමට ලකුණු පමණක් දක්වන ලදී. අතිශයින් සුඛාවබොධ තැන සමාසබැව් පමණක් හඟවනලදී. සමාසයෙන්වූ ක්‍රියාවිශෙෂණාදියෙහි එසේ නොකළ නමුත් දුර්බොධවන කිසියම් ගුණශබ්දාදියෙක ඒසේ දැක්වූ බැව් දතයුතු

# සූචිපත්‍රය.

## INDEX.

සිරිමෙඝවණ්ණ හෙවත් සිරිමෙඝනම් නරේන්ද්‍රතෙම* ශ්‍රීලඞ්කාද්වීපයෙහි රජකළ විජයාදි නරේන්ද්‍ර පරම්පරාවේ 55 වෙනිව පෙණේ. 36 වෙනි පරිච්ඡේදයෙහි කියනලද මහාසෙන රජහුගේ පුත්‍රයායි. මේ නරේන්ද්‍රයාගේ චරිත්‍රය පටන් මේ කාණ්ඩයෙහි රාජචරිත්‍ර කථාව දතයුතු.



---

* කිසිතැනෙක කිත්තිසිරිමෙඝවණ්ණ නමින්ද කියනලදී.

* ශාසනාවතාරයෙහි බු. ව. 1088,

† හයසිව යනු අභයසිව යන්නේ පූර්ව වර්ණලෝපයයි හඟිමු.

‡ අසිග්ගාහක සංඝතිස්ස රජවූකල විරුද්ධව යුද්ධකළ මූලන් සෙනෙවියා උභු මරවා රජවූබව කියන ලදී රජකළකාලය මහාවංසයෙහි නොපෙණේ කිසියම් පොතක දෙමසක් රජකළ බැව් කියාතිබේ.

* ටර්නර් මහත්මයාගේ පොතේ 7

† පූජාවලියේ පෙණෙන ක්‍රමයෙන් මේ යොදනලදී—ටර්නර්මහත්මයාගේ පොතේ වනාහී 6

* පාලිපත්‍රයේදී බින්දුවට හත වැටී ඇති. වැඩිමාසගණනක් පෙණී ඊට වර්ෂයක් එකතුකරණලදී. මින්මහත තැනකද එසේයි.

| රජ ගණන. | පිට. | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රාජ්‍ය වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| | 69 | 3 | ඒ සිලාමෙඝනිරිඳුහා පඬි රජහුගේ යුද්ධය | | | | |
| 109 | 73 | 11 | සේනනම්නිරිඳුගේ රාජ්‍යය | 1411 | 35 | 0 | 0 |
| | 75 | 5 | පඬිරජුහා සමග ඔහු සෙනෙවියාගේ යුද්ධය | | | | |
| | 76 | 6 | ඒ රජහට විසිවෙනි වර්ෂයෙහි අභයගිරිවිහාරයෙහි භික්ෂූන් නික්මීම | | | | |
| 110 | 78 | 2 | උදයනම් නිරිඳුගේ රාජ්‍යය | 1446 | 11 | 0 | 0 |
| 111 | 80 | 18 | (පස්වෙනි) කසුප් | 1457 | 17 | 0 | 0 |
| | 81 | 1 | ශාසනශුද්ධිකථාව | | | | |
| 112 | 82 | 7 | සවෙනි කසුප්නිරිඳුගේ රාජ්‍යය | 1474 | 10 | 0 | 0 |
| | ,, | 31 | රන්පත්හි අභිධර්මය ලියවීම | | | | |
| | 83 | 25 | පඬිරජහට උපක්‍රම කිරීම | | | | |
| 113 | 84 | 15 | (සතරවෙනි)දප්පුලනිරිඳුගේ රාජ්‍යය | 1484 | 0 | 7 | 0 |
| 114 | ,, | 20 | (පස්වෙනි) දප්පුල | 1484 | 12 | 0 | 0 |
| 115 | 85 | 6 | තුන්වෙනි උදය | I496 | 3 | 0 | 0 |
| | 85 | 7 | එනිරිඳුරජයෙහි හටගත් රටකැලඹීම | | | | |
| 116 | ,, | 32 | (දෙවෙනි)සේනනම් නිරිඳුගේ රාජ්‍යය | 1499 | 9 | 0 | 0 |
| | ,, | 34 | ඒනිරිඳුපරිත්‍යාගහා දණ්ඩිස්සරනම් දානය | | | | |
| 117 | 86 | 13 | (තුන්වෙනි) උදයනිරිඳුගේ රාජ්‍යය | 1508 | 8 | 0 | 0 |
| | ,, | 15 | ඔහුහා සොළීරජුගේ යුද්ධය | | | | |
| 118 | 87 | 7 | තුන්වෙනි සේනනම් නිරිඳුගේ රාජ්‍යය | 1516 | 3 | 0 | 0 |
| 119 | ,, | 19 | තුන්වෙනි මහින්ද | 1519 | 16 | 0 | 0 |

| රජ ගණන. | පිට. | පෙළ. | ප්‍රවෘත්ති. | බුඩ වර්ෂ. | රාජ්‍ය වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| | 87 | 28 | වල්ලභරජ්ජුගේ සේනාව හා සමග ඔහුගේ සේනාව විසින් නාගදීව සිනෙහි කරණලද යුඩය | | | | |
| 120 | 89 | 30 | සතරවෙනි සෙනනම් නිරිඳුගේ රාජ්‍යය | 1535 | 10 | 0 | 0 |
| 121 | 91 | 1 | (සතරවෙනි) මහින්‍ද | 1545 | 36 | 0 | 0 |
| | ,, | 4 | ඔහුගේ පිරිහීම | | | | |
| 122* | 92 | 10 | කස්සප්කුමරු ඉන්දදිම රාජශූන්‍ය නම්වූ වර්ෂ | 1581 | 12 | 0 | 0 |
| | ,, | 11 | එකල මහත් සොළිසේනාවහා සමග කිත්තිය බුඩය යන ඇමතියන් දෙදෙනා කළ යුඩය | | | | |
| 123 | ,, | 12 | සෙනාපති කිත්තිනම් ඇමතියාගේ රාජ්‍යය | 1593 | 0 | 0 | 8 |
| 124 | ,, | 13 | මහාලාන කිත්තිනම් රජ්ජුගේ | 1593 | 3 | 0 | 0 |
| 125 | ,, | 17 | වික්කම්පඬිනිරිඳුගේ | 1596 | 1 | 0 | 0 |
| 126 | ,, | 20 | ජගතිපාල | 1597 | 4 | 0 | 0 |
| 127 | ,, | 25 | පැරකුම් | 1601 | 2 | 0 | 0 |
| 128 | 94 | 1 | ලොකනම් නොහොත් ලොකෙශ්වරනම් සේනාපතියාගේ රාජ්‍යය | 1603 | 6 | 0 | 0 |
| | ,, | 30 | පළමුවෙනි විජයබාහුනාමින් රජවූ කිත්තිනම් රාජපුත්‍රයාගේ වංසකථාව | | | | |
| 129 | 99 | 3 | මහා විජයබාහු රජ්ජුරුවන්ගේ රාජ්‍යය. | 1609 | 50 | 0 | 0 |

* රාජශූන්‍ය වර්ෂයයි කියනලද 12 ම වික්කම්බා කස්සප් කුමරහුගේ රාජ්‍යයයි— මෙතැනදී 4 වෙනි සෙනරජහුගේ වර්ෂය පමන් පාලි සූචිපත්‍රයේ ගණනක් වෙනස්වී ඇති. ඒ මෙයින්ද බලාගතයුතු—මාණවම්ම නරනිඳුගේ කාලය පටන් ශ්‍රීපරාක්‍රමබාහු රජ්ජුදක්වා රජදරුවන්ගේ වර්ෂ ගණනේ අවුරුදු කීපයක් අනුමාන කටයුතුබැව් පෙණේ.

| රජ ගණන. | පිට. | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රාජ්‍ය වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| | 99 | 8 | සොළිත්හාසමග ඒ රජ්ජුරුවන්ගේ යුද්ධය | | | | |
| | 101 | 5 | පැමිනිජයඇති ඔහු අනුරාධපුරයට පත්වීම | | | | |
| | ,, | 17 | ආදිමලයනම් සේනානායකයා හාසමග විජයබාහුරජ්ජුරුවන්ගේ යුද්ධය, එතෙක්ම මෙතෙමේ යුවරජ පදවියෙහි සිටියේය | | | | |
| | ,, | 25 | ඔහුගේඅභිෂේකය | | | | |
| | ,, | 30 | උපරාජාදිවූ තනතුරුදීම | | | | |
| | 102 | 5 | විනිශ්චයශුද්ධිය | | | | |
| | ,, | 9 | ජත්‍යගහාකාදීන්ගේ යුද්ධය | | | | |
| | ,, | 25 | මෙහෙසිය අභිෂේකාදී ප්‍රවෘත්ති | | | | |
| | 104 | 11 | රාමඤ්ඤරටින් භික්ෂූන් ගෙන්වීම | | | | |
| | ,, | 20 | විහාරකරවීම් ආදිය | | | | |
| | 105 | 22 | සොළිරජුහාසමග විරුද්ධවීම | | | | |
| | 106 | 4 | වෙලක්කාරසේනාව මර්දනය කිරීම | | | | |
| | ,, | 20 | සොළිරජුසමග යුදකරන්ට යාම | | | | |
| | ,, | 26 | රාජ්‍යසමෘද්ධකිරීම | | | | |
| | ,, | 36 | පින්කම් | | | | |
| 130 | 109 | 1 | ජයබාහුනිරිඳුගේ රාජ්‍යය | 1659* | 1 | 0 | 0 |
| | ,, | 13 | වික්‍රම්බාහුකුමාරයාගේ මාණාභරණාදීන්හා යුද්ධය | | | | |

---

* ටර්නර් මහත්මයාගේ පොතේ, 1669.

| රජ ගණන. | පිට. | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රාජ්‍ය වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| | 249 | 21 | ඒ කාලයෙහි ලක්වැසිවූ ක්ෂත්‍රියාදීන්ගේ සැඟවී පැවැත්ම | | | | |
| 150 | 250 | 8 | (තුන්වෙනි) විජයබාහු රජහුගේ රාජ්‍යය | 1787 | 4 | 0 | 0 |
| | ,, | 25 | ඒ මහරජාන්න්ගේ බුද්ධශාසනොපකාර | | | | |
| 151 | 254 | 1 | (දෙවෙනි නොහොත් කලිකාල සාහිත්‍යසර්වඥපණ්ඩිතයයි ප්‍රසිද්ධ) පරාක්‍රමබාහු නරනිඳුහුගේ රාජ්‍යය | 1791* | 35 | 0 | 0 |
| | ,, | 26 | ඒමහරජානන් සත්‍යක්‍රියා දංෂ්ට්‍රාධාතුප්‍රාතිහාර්‍ය්‍ය දර්ශනාදිය | | | | |
| | 257 | 22 | ඒ නරේන්ද්‍රයන්ගේ ද්‍රවිඩශත්‍රූන් දිනීම | | | | |
| | 258 | 34 | ඒ මහරජානන්කල චන්ද්‍රභානුනම් ජරජහු ලක්දිව් බැසීම | 1801 | 0 | 0 | 0 |
| | 256 | 6 | චන්ද්‍රභානුරජහු හා වීරබාකුමරහුගේ යුද්ධය | | | | |
| | 259 | 23 | දෙවුන්දර දෙවපූජාකිරීම | | | | |
| | 260 | 1 | ඒ පරාක්‍රමබාහු මහරජානන්ගේ ලොකසඞ්ග්‍රහය හා ශාසනාභිවෘද්ධිකිරීමද ඒපිණිස පරදෙසින් යතීන් ගෙන්වීමාදිය | | | | |
| | 263 | 11 | විවිධකුසලකරණ පරිච්ඡෙදාරම්භය | | | | |
| | 268 | 8 | විවිධකුසලකාරපන | | | | |
| | 269 | 16 | දෙවප්‍රතිරාජාමාත්‍යයාගේ පාලම්කරවීම් ආදිය | | | | |

* අත්තනගලුවංශයෙහි ආ පිළිවෙළින් 1779. ටර්නර් උන්නැහේගේ පොතේ 1809.

| රජ ගණන. | පිට. | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රාජ්‍ය වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| | 271 | 7 | පුත්‍රයන්කෙරෙහි රාජ්‍ය භාරාරොපණ පරිච්ඡෙදාරම්භය | | | | |
| | 275 | 6 | විජයබාහු මහරජානන්විසින් පුලස්ථිපුරය කරවීම | | | | |
| | 281 | 13 | අභිෂෙක මඞ්ගලාදිය දක්වීමේ පරිච්ඡෙදාරම්භය | | | | |
| 152 | 285 | 22 | (සිව්වෙනි) විජයබාහු නරනිඳුහු රාජ්‍යය | 1826 | 2 | 0 | 0 |
| 153 | 287 | 7 | (පළමුවෙනි) භුවනෙකබාහු රජහු රාජ්‍යය | 1828 | 11 | 0 | 0 |
| | ,, | 35 | ආය්‍ර්‍යචක්‍රවර්ත්තීහු විසින් දන්තධාතුන්වහන්සේ පඬිරට ගෙණයාම | | | | |
| 154 | 288 | 6 | (තුන්වෙනි) පරාක්‍රමබාහු රජානන් රාජ්‍යය | 1839 | 5 | 0 | 0 |
| | ,, | 11 | ඒ රජතුමන් පඬිරටගොස් දන්තධාතුන් වහන්සේ ගෙණඊම | | | | |
| 155 | 289 | 3 | (දෙවෙනි) භුවනෙකබාහු නිරිඳුගේ රාජ්‍යය | 1844 | 2 | 0 | 0 |
| 156 | ,, | 13 | (සතරවෙනි නොහොත්) පණ්ඩිත පරාක්‍රමබාහු රජානන් | 1846 | නොදක්වනලදී. | | |
| | ,, | 18 | ඒ නරනිඳුහු දන්තධාතු මන්දිරකරවීමාදිය | | | | |
| | ,, | 36 | දඨාධාතු චරිත්‍රනම් ග්‍රන්ථය කිරීමහා ජාතක අටුවාව සිංහලට නැගීම් ආදිය | | | | |
| | 290 | 18 | තොටගමුවිහාර ප්‍රතිසංස්කරණාදිය | | | | |
| 157 | 291 | 13 | (තුන්වෙනි නොහොත් වන්නිනම ආදිවූ) භුවනෙක බාහු රජහුගේ රාජ්‍යය | | නොදක්වනලදී. | | |

| රජ ගණන. | පිට. | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රාජ්‍ය වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| 158 | 291 | 14 | ජයබාහුරජහුගේ | නොදක්වනලදී | | | |

(මේ තුන්රජුන්ට අටසාළිස් වසක් ඉක්මුනාහ.)

| රජ ගණන. | පිට. | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රාජ්‍ය වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| 159 | 291 | 15 | සතරවෙනි භුවනෙකබාහු | 1890 | නො. | | |

(මොහුගේ සිවුවෙනි වර්ෂයෙහි බුදුන් පිරිනිවීමෙන් 1894 ක් අවුරුදු ඉක්මුනාහයි කියනලදී.)

| රජ ගණන. | පිට. | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රාජ්‍ය වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| 160 | 292 | 1 | (පස්වෙනි) පරාක්‍රමබාහු නරේන්ද්‍රයාගේ රාජ්‍යය | 1894 | නො. | | |
| 161 | ,, | 2 | (දෙවෙනි) වික්‍රමබාහු | නො. | නො. | | |
| 162 | ,, | ,, | අලගක්කෝනාර නාමය ආදිකොට ඇති (පස්වෙනි) භුවනෙකබාහු නම් ප්‍රභු රාජයාගේ | නො. | 20 | 0 | 0 |
| 163 | ,, | 28 | (දෙවෙනි) වීරබාහු රජහුගේ | නො. | නො. | | |

(සතරවෙනි භුවනෙකබාහු රජහට තී වර්ෂ සතරහැර මේ පස් රජුන්ට හවුරුදු පණස්නවයක් ඉක්මුනාහ.)

| රජ ගණන. | පිට. | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රාජ්‍ය වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| 164 | 292 | 31 | (සවෙනි නොහොත් ශ්‍රී) පරාක්‍රමබාහු රජහුගේ රාජ්‍යය | 1953* | 52 | 0 | 0 |
| 165 | 294 | 13 | (දෙවෙනි) ජයබාහු | 2005 | 2 | 0 | 0 |
| 166 | ,, | 14 | (සවෙනි) භුවනෙකබාහු | 2007 | 7 | 0 | 0 |
| 167 | ,, | 16 | (සත්වෙනි පණ්ඩිතනාමාදිවූ) පරාක්‍රමබාහු | 2014 | නො. | | |
| 168 | ,, | 18 | අටවෙනි වීරනාමාදී) පරාක්‍රමබාහු | නො. | නො. | | |
| 169 | ,, | 19 | (සත්වෙනි) විජයබාහු | නො. | නො. | | |
| 170 | ,, | ,, | (සත්වෙනි)භුවනෙකබාහු | නො. | නො. | | |

(මේ සිවු රජුන්ට එක්සැත්තෑහවුරුදුක් ඉක්මුනහ)

| රජ ගණන. | පිට. | පෙළ. | ප්‍රවෘත්ති. | බුද්ධ වර්ෂ. | රාජ්‍ය වර්ෂ. | මාස | දින |
|---|---|---|---|---|---|---|---|
| 171 | 294 | 23 | වීරවික්‍රමරජහුගේ රාජ්‍යය | 2085 | නො. | | |

---

* 1958 යයි කිසියම් පොතක පෙණේ.

අඹදෙණිනුවර රාජ්‍යකාලයෙන් මෑත රාජ්‍යවර්ෂ ගණන් බොහොමයක් මහාවංසයේ නොපෙණෙනබැවි පොතබලා දතයුතු.

සූචිපත්‍රය සමාප්තයි.

# නමොතස්ස භගවතො අරහතො සම්මාසම්බුද්ධස්ස.

---

## 37 වෙනි පරිච්ඡේදය.

1 ඒ මහසෙන් රජතෙමේ අසත්පුරුෂ සමාගමයෙන් දිවි
හිමියෙන් මෙසේ ශුභාශුභ (ක්‍රියා) කොට කම්වූපරිද්දෙන්
2 පරලොවගියේයි. එහෙයින් නුවනැත්තේ අසත්පුරුෂ සමා
ගමය දළවිසසපියෙකුසේ දුරින්ම දුරු කොට වහා තමහට
හිතයක් කරන්නේය.

3 ඉක්බිති උහුපිත් සිරිමෙවන් කුමර රාජපදප්‍රාපත විය, හේ
4 තෙමේ මන්ධාතු රජුසේ සකල සම්පත් දායක විය; පව්ටුන්
වසගවූ මහසෙන් රජහුවිසින් නසනලද මහවෙහෙර සියලු
භික්ෂූන් රැස් කොට සමීපයට එලඹ වැඳ හිඳගෙණ ආදර
5 සහිතව "සගමිත් නම් තෙරහුගේ යහලු මපියානන්විසින්
6 කුමක් කුමක් නසනලදද" යි විචාළේය. භික්ෂූහු ඒ රජහට
"(මහරජ) ඔබ පියතෙමේ සීමාව උදුරන්ට ව්‍යායාම් කොටත්
අන්‍යාසීමායෙහි භික්ෂූන් විද්‍යමානහෙයින් නොහැකිවී.
7 මෙහි වනාහි භික්ෂූහු සත්දෙනෙක් බිම්ගෙයක සැඟවී උන්
8 නාහ. සෝණ නම් ඇමතිද සගමිත් නම් පව්ටු තෙරහුද රජ්
9 ජුරුවන් සිතටනගා උභුලවා පව් කරවූහ. උතුම් සත්බුමු
ලොහො පායද නානා ප්‍රකාරගෙවල්ද බිඳ මෙයින් අභය
10 ගිරියට ගෙණගියහ. (අදෝමය) බාල සමාගමයක් බැලූව
මැනව අශූනවූ ඔව්හු සතර බුදු කෙනෙකුන්විසින් පරිභො
11 ගකළ (රුවන්වැලි) සෑ මිදුලෙහි උඳු වැපිරවූහ" යි කීහ. රජ
තෙමේ පියහු ඒ කම් අසා බාල සමාගමයෙහි කලකිරුණේ
ඒ වෙහෙර තමන් පියහුවිසින් නසනලද සියල්ල ප්‍රකෘති
12 වත් කෙළේය. මහාපනාද රජහු උතුම් පහය සිංහලද්වීප
යෙහි දක්වන්නවුන් සෙයින් පළමුකොටම ලොහොපහය
13 කරවී. නට සියලු පිරිවෙන් පිහිටවිය. හේතෙමේ ආරාමික
14 යන්ගේ භොගද යථා ස්ථානයෙහි තැබී. දුර්බුද්ධිවූ පියහුවිසින්
පස උදුළහෙයින් තුනිවූ ආවාසඇති විහාරය පැණැති මේරජ
15 තෙමේ ඝනාවාසකෙළේය. මෙම නරෙශ්වරතෙමේ පියහු
විසින් කරවූ ජේතවන විහාරයෙහි කොට අඩාල සියලු
කර්මාන්ත නිමවී.

16 ඉක්බිති මනුජේන්ද්‍ර හේ රජතෙමේ ශ්‍රමණේන්ද්‍ර පුත්‍රවූ මිහිඳු
මහතෙරිඳු පවත් සියල්ල පළමුකොට අසා ලක්දිව් පහන්
17 කරවූ උන්වහන්සේගේ ගුණෙහි පැහැද “ස්ථවිරතෙමේ
18 ඒකාන්තයෙන් ලක්දිවට ඊශ්වරය” යි සිතා උන්වහන්සේගේ
ප්‍රමාණ ඇසුරුකළ රන්පිළිරුවක් කොට වප්මස පුරපස සත
19 වක්දා ගෙණවුත් එහි තෙරඅඹ නම් සෑ අඹ තෙලෙහි අට
20 වක්දින වස්වා පසුව නවවක්දිනයෙහි ඒ තෙමේ ඇතොවූ
රන්ද ගෙවල්රක්නාන් හැර නුවරුන්ද දෙව්සෙන් බඳු මහ
21 සෙන්ද ගෙණ මුළු ලක්දිව්හි සියලු භික්ෂූන්ද රැස්කරවා
22 නුවර සිරගෙවල සිටි මිනිසුන් මුදා හැර මහදන්වැට තබා
එසේම සර්ව ප්‍රාණීන්ට වැටුප් දී සර්වෝපහාරයෙන් අප්‍රමාණ
23 පූජා කෙරෙමින් ශාස්තෲහුගේ උතුම් පුත්වූ ද්වීපශාස්තෲවූ උන්
24 වහන්සේට දෙව්රජහු බුදුන්ට සේ පෙරගමන් කොට සෑ අඹ
තෙලෙහි පටන් නුවර දක්වා මාර්ගයත් විසාලාමහනුවර
25 පටන් සැවැත්නුවර දක්වා සෙයින් මොනවට සරසා මො
ග්ගලිපුත්‍ර ස්ථවිරයන්වහන්සේගේ ආගමනයෙහි එම (මිහිඳු)
26 තෙරුන් පිය අශෝකමහරජහු සෙයින් තෙරුන්වහන්සේට
එහි සියලු භෝගයන් ත්‍යාග කොට එහිදීම දුගීමගී යාචක
27 යන් විසයෙහි මහදන් පවත්වා සිව්පසයෙන් භික්ෂූහුද තුටු
කරවා “තෙරුන්වහන්සේගේ ආගමනය මහජනතෙමේ
මෙසේ බලාව” යි ඒ පිළිරුව ගෙණ මහායසස්ඇති රජ
28 තෙමේ මහත්සත්කාරයෙන් ඒ සෙලින් බැස තෙමේ පුරස්ස
29 රව භික්ෂූහුද හාත්පසින් පිරිවර කොට (ගමන්ගත් ඒ පිරි
සෙහි) තෙරුන්ගේ ස්වර්ණප්‍රතිබිම්බය ක්ෂීරසාගර මධ්‍යගත ස
න්ධ්‍යාරාගයෙන් පරික්ෂිප්ත ස්වර්ණමෙරුව සෙයින් හෙබියේය.
30 තවද “ලොකනායක තෙමේ (රුවන්) සුත් දෙසනු සඳහා
විසාලාමහනුවරට මෙසේම වැඩිසේකැ” යි මහජනයාට
31 දැක්වී. ඒ නරොත්තමතෙමේ මෙසේ සත්කාර සම්මාන
කෙරෙමින් නුවර නැගෙණහිරිදොර පසෙක්හි තමන්විසින්
32 කරවනලද සවසනියාකර නම් විහාරයට පස්වරුහි එළඹ
33 බුද්ධපුත්‍රයානන්ගේ ඒ පිළිරුව තෙදිනක් එහි වැස්වී. ඉක්
බිති දෙලොස්වක් දවස බුදුහු පළමුවෙන් වඩනා දවස් රජ
34 ගහනුවර සෙයින් මනාකොට නුවර සරසා ඒ පිළිරුව සවසනි
යාකර නම් වෙහෙරින් බැහැරකොටගෙණ සයුරසේ නුව
35 රෙහි මහාසැණකෙළි පවත්නාකල මහාවිහාරයට වඩා
ගෙණවුත් තෙමසක් බෝමළුවෙහි වස්වා එම විථින් නුවරට
36 වඩා රජගේසමීපයෙහි අග්නිදිග ඒ පිළිරුවට ගෙයක් මනා
37 කොට කරවී. විසාරදවූ ඒ රජතෙමේ ඉට්ඨියස්ථවිරාදීන්ගේ

පිළිරුද කරවා ඒ තෙරරුව හා එක්කොට එහිම වැස්වී.
38 මහාප්‍රඥඇති හේතෙමේ ආරක්‍ෂාද පූජාවට වැටුප්ද තබා අවු
39 රුදුපතා මෙසේම කරන්ට නියෝග කෙළේය. තවංශිකවූ
මෙහි රජපැමිනියෝ ඒ රජහු අණ රක්නෝ තච්ධානය
40 නොනසා අදතෙක් රකිති. ඉක්බිති පවාරණ දිනයෙහි නුව
රින් ඒ පිළිරුව මහාවිහාරයට වඩා ගෙණවුත් අවුරුදුපතා
තෙළෙස්වක් දවස්හි පූජාකරන්ට නියෝගකෙළේය.
41 අබාවෙහෙරද තිස්වැහැප්වෙහෙරද මහබෝහිද ගල්පිළි
කඩහා මනහර පව්රුද කරවී.
42 ඒ රජු දවස් නවවනවස එක්තරා බැමිණියක්තොමෝ බුදු
රජහු දළඳුව කලිඟුරටින් මෙහි ගෙණවා (එළු) දළඳුවස
43 කිපරිද්දෙන් රජතෙමේ ඒ ගෙණ බහුමානයෙන් උතුම් පුද
කොට හුදු පිළිමිණින් කළ කරඬුවෙක බහා දෙවෙනි පෑතිස්
රජුවිසින් රාජාරාමයෙහි කරවනලද දම්සක් නම් ගෙහි වැඩූ
44 යේයි. එතැන් පටන් ඒ ගෙය දළඩාධාතුඝරනම්වී. ඉක්බිති
සම්පූර්ණ සිත්ඇති රජතෙමේ නවලක්‍ෂයක් දන විසඳ දළ
45 දා මහපෙළහර කෙළේයි. “අවුරුදුපතා අභයගිරිවිහාරයට
46 වඩාගෙණගොස් ඒ දළ ධාතුවට මෙබඳු පූජාකරව” යි නි
47 යෝග කෙළේය. ඒ රජතෙමේ අටළොස් විහාරයද සතුන්
48 කෙරෙහි අනුකම්පාවෙන් වැව්දියතහවුරුද බෝපුදආදී අප
49 මණ පින්කම්ද කොට අටවිසිවන අවුරුද්දෙහි යමක්
සව්භාවනම් එහි ගියේයි. (මෙළේයි)
50 ඉක්බිති උහු තිස්දෙවුන්මල්වූ දළකඩකම්හි දක්‍ෂවූ දෙටු
51 තිස්කුමර ලක්දිව සේසත්නැංගී. ඒ රජතෙමේ දුෂ්කරවූ
විසිතුරු (දළකඩ) කම්කොට මේ ශිල්පායතනය බොහෝ
52 ජනයා ඉගැන්වී. උහුවිසින් අණවනලද්දෝද සෑඩියෙන්
මැව්වාක් බඳුවූ බෝසත්හු වැනි මනහර රුවක්ද අපාශ්‍රය
53 පයඃඩිකයක් හෝ දික් හගලාපුටුවක්ද සතක්ද රුවන්මඬු
වක්ද ඊබඳ කිසිවක් විසිතුරු දළකඩකම් නම් හෙද ඒ ඒ
54 තැන මොනවට කළහ. ඒ රජතෙමේ නවවසක් ලක්දිව
අනුශාසනාහා නොයෙක් පින්කම්ද කොට කම්වූපරිද්දෙන්
පරලොව ගියේය.
55 ඉක්බිති උහුපිත් බුඩදසතෙමේ රජවිය. ධනවත් (මේ
රජතෙමේ) සියලු රුවනනට සයුරුසේ ගුණයනට ආකර
56 වූයේ, සියලු උපායෙන් ලක්දිව්වැස්සන්ට සැප එලවන්නේ,
වෙසමුණු රජහු අලකාවසෙයින් නුවර රකිමින් පැණ පින්ගු
57 ණෙන් යුක්තවූයේ, පිරිසිදු කරුණවටද ගෘහ වී; එසේම
58 දශරාජධර්මයෙන්ද යුක්තවූයේයි, ඒ සතර අගති හැර විනි

ශවය කරවන්නේ සිව් සඟරාවතින් ජනසඞ්ග්‍රහකෙළේය. ඒ
59 රජතෙමේ බෝසතුන්චරිතය ප්‍රාණීන් හමුයෙහි දක්වන්නේ
පියතෙමේ පුතුන්සෙයින් සතුන්කෙරෙහි අනුකම්පා කෙ
60 ළේය. මහානුවනැති ඒ රජතෙමේ දිළිඳුන් වස්තුදීමෙන්ද
සුවපත්වූවන් භොගජීවිතරක්‍ෂායෙන්ද සිත් පිරුණින් කෙ
61 ළේය. එසේම සත්පුරුෂයන් සඞ්ග්‍රහයෙන්ද අසත්පුරුෂයන්
නිග්‍රහයෙන්ද ගිලනුන් වෙදකම්න්ද සඞ්ග්‍රහකෙළේය.

62 පසුව එක්දිනෙක රජතෙමේ මගුලැතු නැගී නහනු
63 පිණිස තිසාවැවට යන්නේ මහමග පූතනභාගනම් විහාර
යාගේ පසෙක තුඹසක් මතුයෙහි කුසරොගයෙන් පෙළෙන
64 එක් මහනයෙක් දිටී. බඩ හටගත් ගෙඩිරොගය දක්වන්ට
උඩුකුරුව හොත් (නාගයා දැක) “ නාගතෙමේ රොගිය ” සි
65 රජතෙමේ නිශ්චයකොට සිතී. ඉක්බිති අපරාධ රහිත
මහොත්තමතෙමේ මහඇතුපිටින් බැස මහනයා වෙතට
66 පැමිනියේ ඒ මහානාගයහට මෙසේකීහ. “ මහානාගය
තොපගේ ඊමෙහි කරුණ මාවිසින් දන්නාලද්දේය. මහා
67 තෙජස්ඇති තෙපි වූකලී වහා කිපෙනසුල්ලහ. එහෙයින්
තා සපශ්කොට තාගේ පිළියම කරන්ට නොහැක්කෙමි.
68 සපශ් නොකොටත් නොහැක්ක. මෙහි කුමක් කටයුතුද” සි
(කීහ). මෙසේ කීකල්හි ඒ නාගරාජතෙමේ තමාගේ පෙණය
69 සියල්ල බිලෙහි ප්‍රවෙශකොට සන්හුන්ව හොත්තේයි.
එකල රජතෙමේ මෙසේ උන්නහුවෙත එලඹ තමා හින
70 තුබූ සැත ගෙණ ඒනයා බඩ පළා පසුව දොෂය බැහැරලා
උතුම් බෙහෙත් කොට එකෙණෙහිම ඒ සපීයා සුවපත් කෙ
71 ළේයි. එකල්හි (රජතෙමේ) තමන්ම “ මා මහකුළුණුඇති
බව තිරිසන්නුද දත්තුය. මා විසින් මොනවට රජය කර
72 ණලදැ” සි පැසසී. ඒ නාගතෙමේ සුවපත් තමා දැක මාහැඟි
73 සිය මිණිරුවන රජහට පූජපිණිස දින. රජතෙමේ ඒ මිණි
රුවන අබාගිරිවෙහෙර සලපිළිමයෙහි නෙත්‍රකෙළේයි.
74 එක්භික්‍ෂු කෙනෙක් තෙමේද තුසවැටිගම්හි සිඟමින් වියලි
75 බතක් ලැබ කිරි සිඟා හැසිරෙමින් පණුවන් සහිත කිරක්
ලැබ වැලඳූය. කුස පණුවෝ බෝවී උන්වහන්සේගේ බඩ
76 සැපූහ. ඉක්බිති ඒ ශ්‍රමණතෙමේ රජ්ජුකරා එලඹ එපවත්
දැන්වී. රජතෙමේ “ මේ රුජාව කවර ආහරයෙක්හි විද
77 කෙබඳුදැ” සි කීහ. ඒ තෙමේ තුසවැටිගම්හීදි කිරිහා බත්
වැලඳූකලැ” සි දැන්වී. රජතෙමේ “ක්‍ෂීරය පණුවන් සහි
78 තය” සි දනී. එකල්හිම එක් අසෙක් නහර විද පිළියම්
79 කටයුතු විය, රජතෙමේ උහු නහර විද ලේගෙණ මහ

ණභු පොවා මොහොතක් පසුකොට “ මේ වැලඳුයේ අස්ලේ
80 ය ” යි කීහ. ඒ අසා ශ්‍රමණතෙමේ වමනකෙළේ. පණුවෝ
ලේඛා සමග නික්මුනහ; භික්ෂුතෙමේ සුවපත් වී. තමන්
81 ගේ සතුටම රජහට දැන්වී. (රජතෙමේ) “ එකම සැත් පහ
රින් පණුවෝය ශ්‍රමණය අසාය යන මෙතෙක්දෙනා මොන
වට නිරෝගිකරණ ලද්දූහ. මා වෙදකම ආශ්චර්ය්‍යීය ”යි සිතී.

82 එක් මිනිසෙක් දිය බොන්නේ නොදැන දියබරණ බිජුවක්
83 ගිලපිය, එකල්හි ඉන් දියබරණෙක් කුස හටගත්තේ
ඇතුළත තුඩින් පහළේය. ඒ දුකින් පෙළෙන මිනිස්තෙමේ
84 රජුකරා අය. රජතෙමේ උහුගේ රෝගනිදානය පිළිවිස
85 “ ඇතුළත සපියෙකැ ”යි දැන සතියක් ලඞ්ඝනය කොට
සකසේ නහවා විලවුන් ගල්වා මොනවට අතුළ ඇඳ සැ
තැප්විය. එකල ඒ තෙමේ අධික නිද්‍රායෙන් තමා කට දල්වා
86 හොත්තේය. එසේකල උහුගේ මුඛයවෙත හුයක බැඳි මස්
වැදැල්ලක් තැබ්බවී. සපියා ඒ ගඳින් නික්මුනේ මස් වැදැල්ල
ඩැහැගෙණ කුස වදනට පටන්ගත. එකල හුලනුවෙන්
88 ඇදගෙණ බඳනක දියෙහිලා (කියත්තේ) “ සම්මාසම්බුදුන්ට
ජීවකනම් වෙදෙක් විල. උහුවිසින් ලොකයහට කරණලද
89 (මිටවැඩි) කවර දුෂ්කරකර්ම්යක්වේද? හේතෙමේද සඬ
දරයෙන් කම්කරමින් මෙසේම කරන්නේය. මෙහි සැක
යෙක්නැත්. මාගේ කුශල වෘඩිය ආශ්චර්ය්‍යීසි ” යන මේ
වදන් කීය.

90 එසේම හෙල්ලොළිය නම් ගම සත්වරෙක මුඤ්ගඝිවූ
91 සැඩොලියක් සහගැබින් සුවපත්කෙළේය. එක් ශ්‍රමණ
කෙනෙක්තෙමේ වාතරෝගයක් කරණකොටගෙණ හො
වන්නේ නැගුටුවන්නේ වී. ඒ මහණහු ගෝනැස් සෙයින්
වක්වූ කල්හි නුවනැති රජතෙමේ ලෙඩින් ගොඩනැගී.

92 තවද මැඩි බිජුසහිත දියක් වහාබොන්නක්හුගේ නැහැ
සිදුරෙන් ගොස් බිජුව ඉස්මුලටනැගී බිඳී මැඩියෙක් වී. හේ
93 වැඩුනේ එහි ඇවිදී, වැසිකල මැඩියාවිසින් ඒ මිනිසා බෙ
94 හෙවින් ඩසිනු ලබයි. ඒ රජතෙමේ හිස පලා මැඩියා බැහැ
රලා හිස්කබල් පූරුද්දූ නොබෝකලකින් ප්‍රකෘතිවත්කෙ
ළේය.

95 ඒ රජතෙමේ ලක්දිව් වැස්සන්ට හිතපිණිස ගමක් ගමක්
96 පාසා වෙදහල් කරවා එහි වෙදුන් නියුකත කෙළේය. එසේම
රජතෙමේ සියලු වෛද්‍යශාස්ත්‍රයන්ගේ සාරාර්ථයන් හකුළුවා
97 ගෙණ සාරාර්ථසඞ්ග්‍රහ නම් (ප්‍රකරණයක්තනා) අනාගතයෙහි
98 ලක්දිව්හි පිළියම් පිණිස වෙදුන්කෙරෙහි තැබූයේසි. රජ

තෙමේ ගම් දසයෙක්හි එක එක වෙදෙක් බැගින් යෙදූ
යේය. කෙත් අයෙන් විස්සෙන් අඩක් වෙදුන්ගේ දිවිවැටුප්
99 කොට දුන්නේය. ඇතුන් අසුන්ටහා සේනාවටද වෙදුන්
නියමකෙළේයි. මහමග ඒ ඒ තන්හි පිළුන්හා අන්ධයන්ට
වැටුප් සහිත ශාලාද කරවී. ධර්මභාණකයන්ට සත්කාර
100 කොට නිතර සද්ධර්මශ්‍රවණය කෙළේය. ඒ ඒ තන්හි ධර්මභා
ණකයන්ට වැටුප් තැබීය. මහාකරුණාඇති ඒ රජතෙමේ
සැත් මිටිය ඉන තබාගෙණ හැසිරෙන්නේ දුටුදුටු රොගා
තුර ජනයා රෝදුකින් මිදී.

101 ඉක්බිති එක්දිනක් රජතෙමේ අබරණින් සැරහී දෙවියන්
102 පිරිවරා ගමන්ගත් ශක්‍රයාසේ සේනාවහා යන්නාහ. ශ්‍රීසෞ
භාග්‍යයෙන් අග්‍රප්‍රාප්තවූ රාජර්ධීන් විරාජමානවූ ඒ රජහු දැක
103 භවාන්තරයෙහි බඳනාලද වෛර ඇති එක්තරා කුෂ්ඨරොග
ඇතියෙක් තිපී පොළවෙහි අත්ගසා අසුර ගසමින් සැරයටි
104 යද පොළෝ පහරමින් අනෙකප්‍රකාර ආක්‍රොශ බසින් ආ
ක්‍රොශ කෙළේයි. මහනුවනැති රජතෙමේ දුරින්ම මේ විප්‍ර
105 කාරය දැක "කිසි සතක්හටත් අප්‍රියයක් කළා මම නොද
නිමි. කිසිසේත් මේතෙමේ පූර්ව වෛරී එකෙක, උහු නිවමැ"යි
වෙතසිටි පුරුෂයෙක් "යව අසවල් කුෂ්ඨරොගීහුගේ චිත්තා
106 චාරය දනුව"යි අණකෙළේය. හේතෙමේ ගොස් කුෂ්ඨඇත්ත
107 හුගේ යහළුවෙකු සෙයින් වෙත හිඳගෙණ. "යහළු තෙපි
කුමක් පිණිස තිපියෝදැ" යි විචාළේය. හේතෙමේ සියල්
ලම කීය. "මේ බුඩදාසතෙමේ මාදසෙක, පින්කමෙන් රජ
108 විය; මා අවමන් කොට මා ඉදිරියෙහි ඇතුපිටින් යෙයි ; ඉදින්
ඒ තෙමේ මා අතට එයිනම්, දාසයන්ට කළමනා සියලු නිග්‍රහ
109 කොට තමා හඳුන්වමි ; ඉදින් මා අතට නේයිනම්, මරා ගෙල
110 ලෙහෙ බොන්නෙමි ; ඊට සැකනැත් ; නොබෝකලකින්
දක්නෙහිවේදැ" යි කීය. ඒ පුරුෂතෙමේ ගොස් රජහට එප
111 වත් දැන්විය. මහානුවනඇති රජතෙමේ "මේතෙමේ පෙර
112 මාහා වෛරී එකෙකැ" යි නිශ්චය කොටගෙණ "වෛරී
හුගේ වෛරය එක් උපායකින් දුරලිය යුතුය" යි සිතා
"මැනව තෝ උහුට සඟ්‍රහ කර" යි ඒ පුරුෂයා මෙහෙයී.

113 හේතෙමේ කුෂ්ඨරොගී පුරුෂයාකරා එළඹ මිත්‍රයෙකුසේ
උහුට කීය "ඒ රජහු නසන්ට සිතා මෙතෙක්කල් යහළු
114 වෙකු නො ලබන්නෙමි උහු නැස්මෙහි පොහොසත් නො
විමි දැන් තොප ලැබ මාගේ මනොරථය මුදුන් පත් කරමි.
115 එව මා ගෙයි වැස මට එකගව පවතුව මමම තිපදවසකින්
116 මොහු දිවි නසමි" යි කියා ඒ කුෂ්ඨඇත්තහු තමා ගෙට

ගෙණගොස් සකසා නහවා මනා විලවුන් ගල්වා මෘදු පිළී
117 හඳවා මනා මිහිරි ආහාර වළඳවා යෞවනස්ත්‍රීන්ලවා ආදර
118 කරවා මොනවට අතුරණලද ඇඳ සැතැප්වී. මේ ක්‍රමයෙන්
119 තිපදවසක් වස්වා පිනාගිය ඉඳුරන්ඇති සුවපත්වූ උහු හට
ගත් විස්වස් ඇතැයි දැන "රජහුවිසින් දෙනලදැ"යි තියා
120 බාදුහොඳකඳිය දිනී. දෙතුන් යලක් ප්‍රතික්ෂේප කොට උහු
විසින් අයදනාලද්දේ. ක්‍රමයෙන් රජුහා ඉතා විස්වස්ඇති වී
121 "රජ මෙළේය" යි අසා උහුගේ ළය දෙකට පැළුනේ විය. ඒ
රජතෙමේ සිරුරෙහි මෙනෙහි හටගන්නා රොගයන් මෙසේ
122 පිළියම් කෙළේයි. පස්විසි රියන් පහයකින් හොබනා මොන
රපිරිවෙණ මහාවිහාරයෙහි කරවිය. සමණිය ගොළපාණුව
123 යන ගම්දෙක ඊට පුද කෙළේය. දහම් දෙසන භික්ෂූන්ට
124 භොගයන්හා කැපකරුවන් (දුන්නේයි). සිව්පසයෙන් යුක්ත
විහාරද පිරිවෙන්ද වැව්ද දන් හල්ද පිළිමගෙවල්ද කරවිය.
125 එම රජහු දවස මහාධම්කථිනම් යතිතෙමේ හෙළුබසින්
සූත්‍රයන් පෙරලී.

126 ඒ රජහු පිත් දෙවියන් සමාන රූඇති කුමාරයෝ අසූ
වක් වූහ. අසූමහසව්වන්ගේ නම් ඇති කළණ දැකුම්
127 ඇත්තෝයි. ශාරිපුත්‍රාදී නමින් යුක්ත පුත්‍රයන්විසින් පිරි
වරණලද ඒ බුජස්නම් රජ සම්බුදු රජහුසේ හෙබියේයි.
128 මෙසේ බුඩදාස රජතෙමේ ලක්දිව් වැස්සන් වැඩෙහි යොදා
එකුන්තිස්වන වස්හි දෙව්ලොව ගියේයි.

129 ඊට ඉක්බිති ඒ රජහු දෙටුපිත් උපතිස් කුමරතෙමේ
රජ වී. ඒ රජතෙමේ සියලු රාජගුණයෙන් යුක්තයි. නිති
130 සිල්ඇත්තේයි මහාකරුණාඇත්තේයි. දසඅකුසල් හැර දස
පින්කිරියවත් සමාදන් වී. දසරාජධර්මයන්ද පාරමී දසයද
131 පිරවී. සතර සඟුහවස්තුවෙන් සතර දිග (ජය) ගත්තේය.
මහාපාළිනම් බත්හල රාජභොජනය බඳුකොට දන් දෙවී.
132 පිළුන්ටද වඳන ගැහැණුන්ටද අන්ධයන්ටද රොගීන්ටද
133 මහත් භොගඇති සාලාවන්ද දන් හල්ද කරවිය. මගුල්
සැයෙන් උතුරුදිග දාගැබක්හා පිළිමගෙයක්හා පිළිමයක්ද
134 කරවී. එය කරවන්නාවූද රජතෙමේ ජනයා "නහමක්
පෙළේව" යි සකුරුහා සහල් දී දරුවන්ලවා කරවී. රජුපුල
135 ගිජුකුළ පොකුරුපස වලහස ඇඹිටිය ගොඩිගමුවැව බඩ
136 රාජවිහාරය යනමේ විහාරද වැව්දියතහවුරුද (කරවී). ඒ
ඒ තන්හි අපමණ පින්කම් කරවී.

137 ඒ රජතෙම වැසෙසන් තමා ඇඳ තෙමෙනකලද "ජනය
138 හට දුකැ" යි උන්වණම හිඳ මුළුරු පසුකෙළේය. ඇමති

තෙමේ ඒ දැන රජහු උයනට ගෙණගොස් ගෙය වැස්වී.
139 මෙසේ තමා සඳහා ලෝවැස්සාට දුක් නොකෙළේය.
ඒ රජහු දවස ලක්දිව දුර්භික්ෂරෝගදුඃඛයෙකින් පීඩිත
140 විය. පාපාන්ධකාරයට ප්‍රදීපායමානවූ යහපත් සිත්ඇති ඒ රජ
තෙමේ "කිමෙක්ද ස්වාමිනි ලොව දුර්භික්ෂාදී භයෙන් පෙ
141 ළෙනකල බුදුන්විසින් කරණලද කිසි ලොකහිතයක්
නැද්දෑ" යි භික්ෂූන් විචාළේය. එහිදී භික්ෂූහු ගඞ්ගාරොහණ
142 සූත්‍රොත්පත්තිය දක්වූහ. ඒ අසා සර්වඥධාතුවට ස්වර්ණ
පිළිමයක් කොට බුදුන්ගේ සලපා ධාතුව දිය සහිත කොට
143 දෙඅත්හි තබා ඒ රුව මහාරථයක තබා තෙමේ සිල් සමා
දන්ව මහජනයාද සිල් සමාදන් කරවා මහදන්හා සර්වප්‍රා
144 ණීන්ට අභයද පවත්වා නුවර දෙව්පුරයක් සේ සරසා ලක්
දිව්වැසි සියලු භික්ෂූන් පිරිවරණලදුව මහවෙයට බටකල්
145 හි රැස්වූ භික්ෂූහු රුවන්සුත බෙණමින් රජගේවෙත වේම
ගය පව්රවෙතය යන තන්හි පැදකුණු කෙරෙමින් ඇවිද්
146 දහ. තුන්යම්රාත්‍රිය අවසන්හි අරුණුනැගෙණකල මිහි
147 තෙලෙහි මහමේ වටුයේය. සියලු රොගාතුරයෝ සුවපත්
වූවාහු සැණකෙළි කෙළියහ. රජතෙමේ "මතු ලක්දිව්හි
148 යම් කලෙක දුර්භික්ෂරොගාදී භයෙක් වන්නේනම් මෙසේම
149 කෙරෙත්ව" යි නියෝග කෙළේය. ඒ රජතෙමේ වනාහි
සැයට නැංගේ කැළිතිපිලිආදිය බලා මොනර පිළින් පිස
150 සෙමෙන් පොළවට බසිත්වයි (කියා) දිය සහිත සක්ගෙඩිය
ගෙණ ඇවිදිමින් (ඒ සතුන් නැගිතැන්) ශුඬකෙරෙයි.
151 රජගෙසින් නිරිතදිග පොහෝගෙයක්ද බුදුපිළිමගෙයක්ද
152 මනරම් උයනක්ද පව්රනින් පිරිකෙව් කොට කරවා තුදුස්
වක පසළොස්වක අටවක් දෙක පෙළහරපස යන දවස්හි
අටහින්යුත් පෙහෙවස් සමාදන්ව මනාචරියායෙන් එහි
153 වෙසෙයි. හේ තෙමේ ජීවිහිම්යෙන් බත්හල බත් වැළදී.
154 ඒ රජතෙමේ ඇවිදිමින් උයනෙහි ලෙහෙනුන්ට තමා බත්
155 වැටුප් කොට දිනි. ඒ දානුදු පවතියි. වධයට ගෙණෙනලද
සොරුන් දැක තැතිගත් සිත්ඇත්තාවූ ඒ රජතෙම සොහො
156 නින් මිනියක් ගෙන්වා ලොහොසැල බහා වසතුදි රාත්‍රියෙහි
සොරු පලවා හිරු නැගිකල කිපියේ සොරහුසෙයින් මිනිය
දැවී.
157 ලක්දිව් සියලු සැබඳ මහපෙළහරද ථූපාරාමයෙහි දගැ
158 බට රන්කොතක්හා සැට්ටයක්ද කරවී. හේතෙමේ දෙසා
ළිස් අවුරුද්දක් ඇසිල්ලකුදු නොවඳ පින්කම් කොට දිව්‍යරා
159 ජයා හා එකීභාවයට ගියේයි. ඒ රජහු තිස්දෙවුන්මල් මහා

නාම නම් කුමරුනිසා අභ්‍යන්තරවූ දේවියක්තොමෝ ආයුධ
160 යකින් පැහැර නොකරුණෙහි රජු මැරුවා. තිස්දෙවුන්
මල් හේතෙමේ බැයා සජීවකල පැවිදිව හිඳ රජු මැරූකල්
161 හි හීනභාවයට හෝ ගිහිබවට හැරී රජ විය. භ්‍රාතෘඝාතක
මෙහෙසිය තමා අගමෙහෙසුන් කෙළේය. ගිලන්හල් කරවී;
162 මහාපාළිනම් බත්හලද වැඩී‿‿‿‿ලොනොදෙර රලගමුව
කෙළපසවන යන තුන්වෙහෙර කරවා අභයගිරිවිහාරයෙහි
163 භික්ෂූන්ට දිනි. දුම්රක් කන්‍දෙහි විහාරයක් කරවා මෙහෙ
164 සිය නයින් ථෙරවාදී භික්ෂූන්ට දිනි. හේතෙමේ පරණවිහා
රවල නව කම් කරවී. හැමකල්හි දන්සිල්හි ඇලුනේද
තුණුරුවන් පුදන්නේද වී.

165 (එකල දඹදිව) බෝමැඩවෙත උපන් බ්‍රාහ්මණ මානවක
යෙක් විද්‍යාශිල්පකලාදන්නේ තුන්වෙද පරතෙර පැමි
166 නියේ, මොනවට දන්නාලද සමය ඇත්තේ සියලු වාදයන්හි
විසාරදවූයේ වාදකටට්ව ප්‍රකාශීවාද ඇත්තේ දඹදිව ඇවිදි
167 මින් එක්වෙහෙරකට අවුත් රාත්‍රියෙහි පාතඡලමතය සම්පූර්ණ
198 පදයෙන් සුපරිමඩලයෙන් හඬරසී. එහි රෙවතනම් මහා
ස්ථවිරකෙනෙක් දැන “ මේ සත්‍වතෙමේ මහපැණ ඇත්තේය
169 දමනය කටයුත්තේය ” යි සිතා ඒ ස්ථවිරතෙමේ “ කොටලු
හඬින් හඬන්නේ කවරෙක්ද ” යි කීසේක. හේතෙමේ “ කි
170 මෙක්ද කොටලුහඬ අර්ථදනීද ” යි උන්වහන්සේට කීය.
“ මම දනිමැ ” යි (තෙරුන්විසින්) කියනලද්දවූ ඒ තෙමේ
171 තමා මතය පහලකෙළේය. කී කී සියල්ල විසඳ විරුඬ ස්ථා
නද දැක්වූසේක. “ එසේවිනම් තෙපි සියමතය හෙලව ” යි
172 චොදනාකරණලද ස්ථවිරතෙමේ විජම්පෙළ කීසේක. ඒතෙ
මේ එහි අර්ථ අවබොධ නොකෙළේය. “ මෙ කාගේ මන්ත්‍ර
ද ” යි විචාළ ස්ථවිරතෙමේ “ බුඩමන්ත්‍රය ” යි වදාළසේක.

173 “ මේ මට දෙව ” යි කීයෙන් “ පැවිදිව ඒ ගන්ව ” යි වදාළ
කල්හි හේතෙමේ මන්ත්‍රපිණිස පැවිදිව තෙවළාව උගත.
174 පසුව එය “ මේතෙමේ ඒකායන මාර්ගය ” යි ගත්තේයි. බුදුන්
ගේ සෙයින් ගැඹුරුහඬ ඇති හෙයින් බුදුහුසේ පොළෝ
තෙළෙහි පතළයසස් ඇති උහු බුඩඝොසයයි ව්‍යවහාර
175 කළහ. එකල්හි ඒතෙමේ දඹදිව්හිදි ඤාණෝදය නම් ප්‍රක
රණය කොට ධම්මසඟණීයට අර්ථශාලිනී නම් අටුවාව කළ
176 සේක. නුවනඇති හේතෙමේ පිරිත් අටුවාව කරන්ට පටන්
ගති. රෙවතස්ථවිරතෙමේ ඒ දැක උන්වහන්සේට (වදාරණ
177 සේක්) “ මෙහි පෙළපමණක් පරම්පරානීතය මෙහි අටුවා
178 නැත්; එසේම නානා ප්‍රකාර ආචාර්‍ය්‍යවාදයෝද නොවෙති.

තුන්සඟායනාවට නගණලද බුද්ධ වචනද සාරිපුත්‍රාදී මහ
තෙරුන්විසින් වදාරණලද කථාමාර්ගයද මොනවටබලා, ප්‍රාඥ
මිහිඳුමහතෙරුන්විසින් සිංහල භාෂාවෙන් කරණලද ශුද්ධ
179 වූ සිංහලාර්ථකථාතොමෝ සිංහලයන්කෙරෙහි වැටෙයි. තෙ
180 පි එහි ගොස් ඒ අසා මාගධනිරුක්තියට පෙරලව ඕතො
181 මෝ සියලු ලොවට හිතඑලවන්නිවේ" යි මෙසේ වදාළසේක.
182 මෙසේ වදාරණලදීන් ප්‍රසන්නවූ මහානුවනඇති ඒතෙමේ
ඉන් පිටත්ව මෙම රජුදවස ලක්දිව් පැමිනිසේක.

183 සියලු සත්පුරුෂයන්ගේ නිවාසවූ මහා විහාරයට පැමිනි
සේකුත්, මහාපදන්ගෙට ගොස් සඞ්ඝපාල තෙරුන් කෙ
184 රෙන් සිංහල අටුවා කථාහා ථෙර වාදයත් සර්වප්‍රකාරයෙන්
අසා "මේතෙමේම ධර්මස්වාමීහුගේ අභිප්‍රාය" යි නිශ්චය
කොට එහි සඞ්ඝයා රැස්කරවා "අටුවා කරන්ට මට සියලු
185 පොත් දෙව" යි කීහ. සඞ්ඝතෙමේ ඒ තෙරහු විමසනු සඳහා
උන්වහන්සේට ගාථා දෙකක් දෙන්නේ "තොප සමර්ථ
බැව් මෙහි දක්වව, ඒ දැක සියලු පොත් දෙමු" යයි දීනි.
186 ස්ථවිරතෙමේ අටුවාසහිත ත්‍රිපිටකය සමාසවාරයෙන්
එහිම සග්‍රහ කොට විශුද්ධිමාර්ගය කෙළේයි.

187 ඉක්බිති හේතෙමේ බුද්ධසමයෙහි බුහුටි සඞ්ඝයා රැස්
188 කොට මහබෝවෙත එය කියවන්ට පටන් ගත. දේවතා
වෝ උන්වහන්සේගේ නිපුණබැව් මහජනයා කෙරෙහි
189 ප්‍රකාශකරණුපිණිස පොත අතුරුදහන් කළහ. උන්වහන්
190 සේද දෙතුන් යලක් එය කළසේක. තුන් වෙනි වර පොත
කියවන්ට ගෙණකල අනිත් පොත් දෙකත් දේවතාවෝ
191 එහි තැබූහ. එකල භික්ෂූහු පොත් තුණ එක්කොට කිය
වූහ. අර්ථයෙන්ද ග්‍රන්ථයෙන්ද පූර්වාපරවසයෙන්ද ථෙරවාද
192 යෙන්ද පෙළින්ද පදයෙන්ද ව්‍යඤ්ජනයෙන්ද පොත් තුණෙ
හිම භින්නත්වයක් නුවූයේමය. එකල සඞ්ඝතෙමේ වෙසෙ
සින් තුටුපහටු වූයේ "නිසැකින්ම මේතෙමේ මෙතේ බෝ
193 සත්හුය"යි නැවත නැවත කියා අටුවාකථා සහිත පිටකත්‍ර
194 යෙහි පොත් දින. එකල්හි උන්වහන්සේ මහාවිහාරබද දූර
සඞ්කර ග්‍රන්ථාකර පිරිවෙණ වෙසෙමින් සියලු සිංහල අටුවා
කථා සියල්ලන්ගේ මූලභාෂාවූ මාගධනිරුක්තියෙන් පැවැ
195 ත්තුසේක. සාර්වභාෂික සත්වයන්ට ඕතොමෝ හිතපිණිස
වී. සියලු ථෙරීය ආචාරීහු එය පෙළ සෙයින් පිළිගත්හු.

196 ඉක්බිති ඒ ස්ථවිරතෙමේ මෙහි කර්තව්‍ය නිෂ්ඨාවට පැමිනි
කල මහබෝ වඳනට දඹදිව් වැඩිසේක. මහානාම රජ

තෙමේ දෙවිසි හවුරුද්දක් පෘථුවිපාලනය කොට විසිතුරු
197 පින්කම් කොට කම්වූපරිද්දෙන් පරලොව ගියේය.

මොනවට කැටිකරණලද භටසේනාහා සම්පූර්ණ භොගඇති මේ සියලු රජදරුවෝම අවසානයෙහි මරු ඉක්මවන්ට නොහැකිවූහ; එහෙයින් නුවනැත්තේ මෙසේ සියලු සත්වයෝම මරුවසග වන්නාහයි දැන වස්තුයෙහිද ජීවිතයෙහිද ඇල්ම නිතොරම යෙහෙන් දුරුකෙරේවා.

මෙතෙකින් හුදිජනයා පහන්සංවේගපිණිස කළ මහවංශී සපතරාජික නම් සත්තිස්වන අදිරය නිමි.

---

# 38 වෙනි පරිච්ඡේදය.

1 මහානාමරජුට දෘ දෙමළියක කුසහොත් සොත්ථිසෙන නම් කුමාරයෙක්ද එසේම මෙහෙසිය දියනිවූ සඩ්ඝා නම් කුමාරි
2 කාවක්ද වූහ. එකල සොත්ථිසෙන කුමර රජපැමින සඟා කුමරියවිසින් මරණලද එදවස්හිදිම ඕතොමෝ බෙර පියවි
3 කරවා තමා වලලහ ජන්තගාහකයහට* රජය දින. ඒ තෙමේ ජන්තගාහක නම් වැව බඳවා අවුරුද්දකින් මෙ
4 ළේය––––උහු යහලුවූ මහාපැණැති ඇමැත්තෙක්තෙමේ මළ උහු ඇතුළු වහසල්හි ආදාහන කරවා මහාබලඇති
5 කරල්සොරහු "රජයට සුදුසුය" යි සිතා රහස උහු රජ කොට "රජතෙමේ රොගාතුරය" යි ඇතුළු රජගෙහිම වස්
6 වා තෙමේ රාජ්‍යය විචාළේය. සැණකෙළි පැමිනිකල මහ ජනයා (අවුත්) "ඉදින් රජතෙමේ ඇතිසේක්නම් අපහා
7 සමග (සැණකෙළියට) එනසේක්ව" යි ගුගුළහ. ඒ අසා රජතෙමේ සර්වාලඞ්කාරයෙන් සැරහුනේ මගුලැතු ගෙණ කල "මේතෙමේ මට නුසුදුසුය" යි අළුදුගෙහි සුණු පිරියම්
8 ඇතුට අණ කෙළේයි. "රජහු අණැ" යි කී කල ඒ ඇත් තෙමේ ආය; උහු නැගි නුවරපැදකුණුකරමින් ගොස් නැගෙ
9 ණහිරි දොරින් බැහැර පළමු සැතන්හි ඇතු තබන්ටයෙදි.†

---

* පූජාවලි—ලමැනිතිස්.

† පූජාවලි—ඔහු ඉක්බිතිව මිත්සෙන්නම් කරල්සොරෙක් රජය ලදින් අව සෙක දළදා වදින්නට ගොස් නැවත රජගෙට එන්නයේ දළදාගෙය දොරසිට මගුලැතු ගෙණෙවයි කිය-ඇමතිහයෝ මගුලැත් පසුවිය මදවිගසක් බල මහරජයි කීහ. එබසට මහරජ කිපි උළින් සුණින් බැඳ නැගු මහඇත්රුවක් බලා තෝ මට පිට නොදෙයිදැයිකිය—එකෙණෙහි උළුඇත් රජුකරා අවුදින් පිටහිඳුවා නුවර පැදකුණුකොට රජු රජගෙහි ලා ගියේය.

10 මහසෑ තුණෙහි ඇත් පව්රු තොරන් කරවිය, ඒ මිත්‍ර
සේනරජ බොහෝ පින්කම් කොට වසෙකින් පරලොව ගි
යේය.

11 පඬු නම් දෙමළතෙමේ පරතෙරින් අයේ යුඬයෙහිදී මිත්
සෙන් රජු මරා ලක්දිව රජය කරවිය (එකල) කුලවත් සිය
12 ල්ලෝ රුහුණු ගියහ. දෙමළුම මහවැලිගඟින් මෙතර
අධිපතිකම් කළහ.

13 ශුභ නම් බලතාට බිය වැද මෞර්‍ය්‍යවංශයෙහි උපන් යම්
මිනිස්කෙනෙක් පලාගොස් ඒ ඒ තන්හි වාසය කළෝද උන්
14 අතුරෙන් ධාතුසේන නම් එක්තරා කෙළෙඹියෙක් නන්දිවා
15 පීගම විසීය. උහු පුත් දාඨා නම් තැනැත්තේ ඇඹිල්යාගු
නම් ගම වෙසෙමින් සමානජාතිකවූ දුසෙන්ය සලතිස්බෝ
16 ය යි පුතුන් දෙදෙනෙක් ලද. උන් මැනියන් සොහොයු
රුවූ සැදැහැත්තෙක් පැවිදිව දික්සඳසෙනෙවියා පිරිවෙණ
වෙසෙයි. ධාතුසෙන තරුණතෙමේද උන්වහන්සේවෙත
17 පැවිදි විය; කලෙක ඒ සාමණේරයන්ද එක් රුක්මුලෙක
18 හිඳ වණපොත් කෙරෙයි. එකල වැසි වටුයේය, නාගයෙක්
තෙමේ ඒ දැක දරණවැලයෙන් පිරිකෙව් කොට පෙණයෙ
19 නුදු වසා පොතහා කුමරුද රැක්කේය. මයිල් මහතෙරුණු
වෝ ඒ දුටහ. (පසුදිනෙක) එක් පැවිදිකෙනෙක්තෙමේ ඒ
20 කුමරු හිස කැළිකසලක් දැමීය. කුමරතෙමේ උහු කෙරෙ
හි සිත් නොකෙලෙසීය. මයිල් මහතෙරණුවෝ එයද දැක
"ඒකාන්තයෙන් මේ සත්‍වතෙමේ උතුම, නිශ්චයෙන්ම රජ
21 වන්නේය; රක්ෂා කටයුතුය" යි උහු ගෙණ වෙහෙරට ආහ.
"ගෝණිසාදි විහාරයෙහි මේතෙමේ නුවනැති කළ යුතුය" යි
22 සිතා ඒ කුමරහු හික්මවී. පඬුරජ එපවත් දැන "මුහු ගණු
ව" යි සේවකයන් යැවිය. ස්ථවිරතෙමේ එම රෑ සීනයක් දැක
23 කුමරු බැහැර කළසේක. උහු නික්මුනු කෙණෙහිම සේවක
24 යෝ පිරිවෙණ සිසාරා ඇවිද නුදුටුවහ. ඉක්බිති ඒ දෙදෙනා
නික්ම අවුත් (අනුරාපුරින්) දකුණුදිග ගොණ නම් (මහ
වතුරු) පිරුණු හොයට අවුත් වහා යනු කැමැත්තෝ නමුත්
25 නැවැත්තාහ. "මේ නදයතෙමේ අප යම්සේ වලකාද
26 එසේම මෙහි වැවක් බැඳ තෝ මේද අවුර" යි කියා ස්ථවිර
තෙමේ කුමරුහා සමග හොයට බට. එකල්හි නාරජෙක්
ඒ දෙදෙනා දැක තමා පිට පැය. එයින් ඒතෙමේ එතරව
27 කුමරු ගෙණගොස් පිටිසර වෙසෙමින් කිරිබතක් ලැබ
වලඳා ශෙෂය පාත්‍රයෙන්ම කුමරුට දින. කුමාරතෙමේද
තෙරුන්කෙරේ ගෞරවයෙන් බත බිම බහා වැළඳීය.

28 තෙරුන්වහන්සේද් "මේතෙමේ පොළව බූදිය" යි උහු දනී.
29 පඬුරජතෙමේ රජය කොට පස්වෙනි හවුරුද්දෙහි මෙ
ළේය. උහු පිත් පාරිඳුරජ තුන්වෙනි වස මෙළේය. ඒ
30 පාරින්ද රජු තිස්දෙවුන් මල් කුඩා පාරිඳු රජ පෘථුවියෙහි
රජකම් කෙරෙමින් දූසෙන් කුමර අනුව ගිය සියලු මහ ජ
31 නයා පෙළීය. දූසෙන් කුමරද ජනයා එක්කොට ගෙණ රජු
හා යුද කෙළේයි. ඒ කුඩාපාරිඳු රජද පින්පව් කෙළේ සො
32 ළොස්හවුරුද්දකින් මෙළේයි. ඉක්බිති තිරීතරතෙමේ රජ
33 විය. දූසෙන් කුමරතෙමේ උහුහා මහයුදකොට දෙමසකින්
උහු මැරීය. ඒ රජු මැරූකල දූඨියනම් දෙමළතෙමේ අන
34 නාතරයෙහි රජව තුන්හවුරුද්දකින් දූසෙන් කුමරහුවිසින්
නසනලද්දේය, ඉක්බිති පීඨිය නම් දෙමළතෙමේ රජව සත්
මසෙකින් මරණයට ගියේය. දෙමළවංශයතෙම දූසෙන්
කුමරූහා යුදකොට ශූන්‍යවිය.
35 ඉක්බිති ධාතුසෙන නරශ්‍රෙෂ්ඨතෙමේ ලක්දිව්හි රජ
36 විය. ඒ රජතෙමේ තමාබෑ (සලතිස්බෝ කුමරු) හා ලක්
දිව්හි එක්විසිතැනෙක කඳයුරු බැඳ යුධ කොට නොයෙක්
37 උපායෙන් ලක්දිව් නසන දෙමළුන් සහමුලින් නසා රට
මොනවට ශුඩකොට මහජනයාද සුවෙහි පිහිටුවා, සතුරන්
විසින් නැසූ සස්නද සුදුසු තන්හි තැබීය.
38 "කුලවත් යම් කුලගම්වැසිකෙනෙක් දෙමළුන් අනුව ගියා
39 හුද ඔව්හු මාහෝ සස්නාහෝ නොරැක්කාහ" යි කිපී උන්ගේ
ගම් උදුරාගෙණ ගම්රක්නවුන් කෙළේය— පූර්වොක්ත
40 සියලු කුලවත්හු රුහුණින් අවුත් උහු උවටන්කළහ. ඒ
රජතෙමේ සුදුසු පරිද්දෙන් උන්ට සත්කාර සම්මාන කෙ
41 ළේය තමාදුකෙසි එක්ව වැටුනු ඇමතියනුදු තුටු කෙළේය.
42 මහගඟ බඳවා කුඹුරුදිය තරකෙළේය. මහාපාළි නම්
බත්හල භික්ෂූන්ට ඇල්බත් දෙවීය. නුවනැති ඒ රජතෙමේ
43 පිළුන්හා රොගාතුරයන්ට සාලාද කරවිය. කළාවැව අවුරා
ගොණ නම් මහනදිය බැන්දේයි. ඒ රජතෙමේ මහාවිහා
44 රය නිරවුල් පෙත්මගින් යුක්තකරවා එසේම දර්ශනීයවූ
බෝගෙයද කරවිය. සිවුපසයෙන් භික්ෂූන් තුටුකරවා ධර්මා
ශොක මහරජහු සෙයින් තුන්පිටකයෙහිද සඞ්ග්‍රහ කෙළේය.
45 මහාවිහාර පරම්පරාවෙහි භික්ෂූන්ට කැපසරුප් භොගයෙන්
46 යුක්ත අටළොස් වෙහෙර කරවිය. ලක්දිව්හි අටළොස්
වැවක්ද කරවිය; කළාවැවවෙහෙර, කොළපසව, දකුණුගිර,
47 වඩමන්වෙහෙර, පණුවල, බදුලූවෙහෙර, පහණබදරට දූ
සෙන්පව්ව, මිහුඟුණුවෙහෙර, සැව්වීය, උතුරුදූසෙන්වෙ

48 හෙර, නැගෙණහිරි අඹවිටිය, අතුරුමේගිර, ඇතාලවෙ
49 හෙර, කසපිටි දසෙන් වෙහෙර, රුහුණුදගම, සල්වාන්වෙ
හෙර, විහිෂණවෙහෙර, බෙල්වාන්වෙහෙර යන මේ අට
50 ළොස් වෙහෙර දන්නා ලද්දුහ. පාදුලකය හඹලඞිය මහා
දත්තය යනාදී (අටළොස්මහ) වැව් (දතයුතතාහ)——
51 එසේම ඒ නරශ්‍රෙෂඨතෙමේ අටළොසක් සුලු වෙහෙරද
වැව්ද කරවා එම විහාරයන්ට දෙවීය.
52 තවද පස්විසිරියන් මොනරපිරිවෙණ මූලශුඩ්යෙන් ශුඩ
53 කරවා එක්විසිරියන් පමණ කොට කරවී. කළාවැව භාගා
ඞියද කෙත් දෙසියයද කුමාරසෙනයහට පවරා පූර්වභො
ගය ශුඩකෙළේය. ලොහොපහය දිරාගිය කල්හි නවකම්
54 කරවී. මහසෑතුණෙහි දිරාගිය ඡත්‍රයන් කරවිය——දෙ
55 වෙනි පෑතිස් රජහුවිසින් කළ බෝ පෙරහර සෙයින් බුදු
බව පතා බොධියට නහනුමුර පූජාවක් කෙළේය. ඒ පූජා
56 යෙහි දෙවිනා ලොහො හොරු සොළසක් පිදීය. මුනිඳු
(රුවට) අබරණහා නහනුමුරද කරවී.
57 මිහිඳු මහතෙරුන් පිළිමය කරවා ආදාහන ස්ථානයට
වඩා ගෙණගොස් තෙරුන්ට මාහැඟි පූජාකරණු පිණිස දහ
58 සක්දි දිපවංසය ප්‍රකාශකරන්ට අණකෙළේය. එහි සිටි
59 භික්ෂූන්ට උක්සකුරු දෙන්ටද අණකෙළේය. තමා ඉස
60 කැළිකසල හෙළීම සිහිකෙරෙමින් එසේ කළ භික්ෂූහට
61 තමා කරවූ වෙහෙර වසතුදු ලාභය නොදිනි. අභයගිරි
විහාරයෙහි බොහෝවූ පිරියම් කරවී. සල පිළිමයට මඩප
62 සහිත මඤ්ජරයක් කරවී. බුජස් රජහුවිසින් කරවනලද
63 නෙත්‍රය නට කල්හි මාහැහි මිණිසගලනින් නෙත් තැබ්
බවි. එසේම බුදුන් රුස්වලලලහා සිළුමිණද කෙස්පුඩුද ගන
64 නිල්මිණින් කරවී. ඉතා උතුම් රන්පටද එසේම ඌණිරෙම
යද රුවන් සිවුරද පාදලද රන් පියුමද මාහැහි (රන්) පහ
65 නක්ද නානාරාගවසත්‍රද ගණන පථාතික්‍රානත කොට එහි
පිදී. බහුමඟල චෛත්‍යයෙහි පිළිමගෙවල්ද බෝසත්රුද
66 එසේම කළුගල් බුදුරුවද කරවී. එසේම උපසුමහනම්
බුදුරුවට රුස්වලලලහා සිළුමිණද කරවී. අභිෂෙකනම් බුදු
67 රුවටත් පෙරකී පළඳනා කරවී. බෝයෙහි වම්අත බෝසත්
ගෙයක්ද එසේම මෙතේ බුදුරුවට සියලු රජපළඳනාද
68 කරවී. එකල්හි හාත්පස යොදුනෙක එයට ආරක්ෂායෙදී
69 විහාරවල ධාතුරාජනම් පෙත්මංද එසේම ලක්ෂයකින් උතුම්
70 මහබෝගෙයද කරවී. ථූපාරාමයෙහි සෑය ජීර්ණ විශොධන
71 හා පූජාද දළදාගෙහි දිරීම්ද සකස් කෙරෙමින් දළදාකරඬු

වක්ද ගන කොට මිණි එබ්බූ රුස්වලලක්ද මාහැඟි
72 මිණියෙන් ගහණවූ රන්පියුම්ද දංෂ්ට්‍රා ධාතුවට පිදීය. ගි
ණිය නොහැකි පූජාද කෙළේයි. ලක්දිව් වැසි භික්‍ෂූන්ටද
73 සිව්රු දෙවී. ඒ ඒ විහාරවල නවකම් කරවා ප්‍රාකාරද ගෙ
74 වල්ද සුණුපිරියම්න් මනොහර කරවී. මහසෑතුඹෙහි මා
හැඟි සුණුකම් කරවා රන්සත් විදුරුසුඹුළුද කරවී.

75 පව්ටුවූ මහසෙන් රජුවිසින් මහවෙහෙර නටබුන්කළ කා
76 ල යෙහි ධම්මරුචික භික්‍ෂූහු සෑගිරියෙහි විසූහ. රජතෙමේ
අඹතලච්ච කරවා මහාවිහාරිය භික්‍ෂූන්ට දෙනුකැමතිවූයේ
77 ධම්මරුචිකයන් විසින් ඉල්වනලද්දේ ඔවුන්ටම දිනි. ධාතු
පඤ්ඨාන හොරුවද කස්ලොහොයෙන් කරවා දෙපස් අමු
78 ණෙකින් දන්වැට පැවැත්වී. (අනුන්හා) අසම දම්සෝ රජු
හා සම (ඒ රජතෙමේ) නුවර ඇතුළද පිටද බුදුගෙවල් හා
79 පිළිම ගෙවල්හා පිළිම කරවා පූජා කෙළේයි. ඒ රජහුවිසින්
කරවූ සියලු පින්කම් එකක් පාසා කියන්ට කවරනම් මනුෂ්‍ය
යෙක් සමර්ථද එහෙයින් මුඛමාත්‍රයක් දක්වනලදී.

80 භින්නමාතෘක කසුප්ය සමාන මාතෘක මහාබලඇති මුග
81 ලනැයි උභුපුතුන් දෙදෙනෙක් වූහ. එසේම (දුටුවන්) සිත්
අලවන්නාවූ එක් දුවකුදු වූවා. ඒ රජතෙමේ බෑනාහට
82 සේනාපති තනතුරුහා ඈය දිනි. ඒ සෙනෙවිරත් වනාහි
සැම්ටියෙන් දෙසින් විනාම ඈගේ කලවාහි තැළීය. රජ
තෙමේ දියනියන් ලෙහෙවැකුනු පිළී දැක එබව දැන කිපී
83 උභුමව් නගන කොට දැවී. එතැන්පටන් බඳනාලද වෛර
ඇති ඒ සෙනෙවිරද්දු කසුප්කුමරු හා එක්ව රාජ්‍යයෙන් උභු
84 පොළඹවා පියාකෙරෙහි බිඳුවා ජනය එක්කොට ගෙණ
ජීවග්‍රාහයෙන් රජහු ගැන්වී. ඉක්බිති කසුබ්කුමර ලබන
85 ලද සියලු පව්ටු යහළුවන් ඇත්තේ පිතෘපාර්ශ්වික මිනිසුන්
86 නසා සේසත් නැගීය. අනතුරු මුගලන් කුමර උභුහා මහ
යුද කරණුකැමැත්තේ බල නොලත් බැවින් ඒ සඳහා දඹ
දිව් ගියේය.

87 මහාරාජ්ජයාගේ විනාසයෙන්ද පුත්‍රවියොගයෙන්ද දඟ
ගෙහි විසීමෙන්ද දුක්පත්වූත් රජහු (තවත්) දුක්කරවනු
88 පිණිස නැණනැති ඒ සෙනෙවිරද්දු නිඥිත කසුබ්රජහට
"රජ්ජුරුවන්වහන්ස ඔබ පියරජහුවිසින් රජකුලෙහි නිදන්
89 රක්නා ලද්දාහ" යි කීය "නැතැ" යි කීකල "මහරජ මුහු
සිත නොදන්නෙහි හේතෙමේ මුගලන් කුමරහට නිදන්
90 රකීය" යි උභුට කීය. ඒ අසා කිපියාවූ නරාධමතෙමේ "නිදන්
91 තැන් කියව" යි පියරජුකරා දූතයන් යැවීය. "කොල අප

මරවන්ට ඒ පවිටුහු උපායෙකැ" යි සිතා තුෂ්ණිම්භූතවිය.
92 ඔව්හු ගොස් නිවට රජහට (එපවත්) දැන්වූහු. ඉන් ඉතා කිපී නැවත නැවත (දූතයන්) යැවී (ධාතුසේන රජතෙමේ
93 "මා යහළුවා දැක කළාවැවෙහි ස්නානය කොට මියන් නෙම් මැනවැ" යි සිතා "ඉදින් මා කළාවැව් යවානම් දන
94 හැක්කැ" යි දූතයන්ට කීහ. ඔව්හු ගොස් රජහට දැන්වූහ.
95 රජතෙමේද වසනු කැමැත්තේ තුටුපහටුව රථයක් දෙවා දූතයන් යැවීය. බැගෑපත් ඇසින් උපලක්ෂිතවූ රජු මෙසේ
96 යනකල්හි ඒ රියදුරුතෙමේ රථය පදනේ විළඳ කමින් සුගක් මුහුටද දින. එකල ඒ අනුභව කොට උහුකෙරේ
97 පැහැද මුගලන් කුමරහට උහු දෞරටුපාල සඟුහයෙන් සඟුහකරන්ට පතක් දින—සම්පත්හු නම් මෙසේ විදුලි උපමාව සැලෙනසුල්ලහ; එහෙයින් චෙතනා සහිත කව රෙක් නම් එහි ප්‍රමාවන්නේද,

98 රජහු සුහෘත් ඒ ස්ථවිරතෙමේ "රජතෙමේ එයි" යනු අසා
99 ලිහිණිමස් සහිත උඳු බතක් ලැබ "රජහු රුචිනම් මේ මැනවැ" යි මෙනෙහි කෙරෙමින් සඟවා තබා පිළිගැන්විය.
100 රජතෙමේද ගොස් වැඳ එකත් පසෙක හිඳගත. මෙසේ හිඳ ගත්තාවූ ඔව්හුදෙදෙනා පැමිනි රජ්සැප ඇත්තවුන්සේ පර
101 ස්පරාලාපයෙන් මහදුක් නිවූහ. ස්ථවිරතෙමේ උහු වළඳවා නොයෙක් පරිද්දෙන් අවවාද කොට ලොව් දහම් දක්වා අප්‍රමාදයෙහි යෙදීය.

102 පසුව වැවට ගොස් (දියෙහි) ගිලී කැමතිසේ ස්නාන පානය කොට රාජසේවකයන්ට "පින්වත්නි මාගේ වසනු
103 මෙතෙකැ" යි මෙසේ කීය. රාජදූතයෝ එපවත් අසා උහු නුවරට ගෙණ ගොස් රජුට දැන්වූහ. "මේ තෙමේ ජීවත්
104 වමින් පුතුට වසනු රකී ලක්දිව් මිනිසුන් බිඳුව" යි සිතා කිපී සෙනෙවිරත්හට "මපියා මර" යි අණවිය. ඉතාරොස්වූ
105 ඒ සෙනෙවිරද්දු මා වෛරීහු පිටු දක්නා ලද්දිය" යි සව් බරණින් සැදියේ රජුකරා එළඹ උහු ඉදිරියෙහි සක්මන්
106 කෙළේය. රජතෙමේ ඒ දැකම "පවිටුවූ මේ තෙමේ කයසේ
107 මාසිතත් පෙළා නිරයට යවනු කැමැත්තේය. උහුට රොස්
108 ඉපදවීමෙන් කවර මන දෙළක් පූරම්දැ" යි මෙත් කෙරෙ
109 මින් රජතෙමේ ඒ සෙනෙවිහට "මුගලන්කුමරු කෙරෙ
110 හිද තාකෙරෙහිද මම එක්සිත්මි" යී කීය. හේතෙමේ සිනා සෙමින් ඉස සැලීය. රජතෙමේ ඒ දැක "ඒකාන්තයෙන් අද
111 (මා) මරව" යි දනී. එකල සාහසික ඒතෙමේ රජහු නගා

කොට නැගෙණහිරට මුහුනලා හැකිළි බැම්මෙන් බන්දවා ඇතුළු බිත්හි බැඳ මැටි ගැස්වී.

112 මෙසේ දැකත් පණ්ඩිත කවරෙක් නම් සම්පත්හි දිවියෙහි යසස්හි හෝ ඇලේද ?

ඒ දූසෙන් නම් මහරජතෙමේ මෙසේ පුත්හුවිසින් මරණ
113 ලද්දේ අටලොස් වසෙකින් දෙව්රජුකරා ගියේයි.—මේ රජතෙමේ කළාවැව බඳවන්නේ සමාධියෙන් හුන් භික්ෂූ කෙනෙක් දැක සමාපතතින් උගුළුවනු නොහැකිව ඒ මහණුනු
114 මත පස් දැම්මවී. මේ එහි සානදෘෂ්ටිකඵලයයි දක්වනලදී.
115 ඉසුරුමත් මේ රාජශ්‍රෙෂ්ඨයෝ දශදෙනම ඉසුරුත් සම ගම මරුමුව උපගතයහ. ඉසුරුමත්හුගේද වස්තුයෙහිද අනිස බව් දැක පැණැත්තේ නිවන්ම කැමතිවන්නේයි.

මෙතෙකින් හූදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස දසරාජක නම් අටතිස්වන අදියර නිමි.

---

# 39 වෙනි පරිච්ඡෙදය.

1 ඉක්බිති පව්ටුවූ කසුබ් නම් ඒ රජතෙමේ අස්ගොව්වාද අරක්කැම්යාද යවා මල් (මුගලන් කුමරහු) මරවනු නොහැ
2 කිවමින් බියව සීගිරට ගියේය. මිනිසුන්විසින් නැංග
3 නොහෙන(ඒ පව්ව) සිසාරා සුඛකරවා; පව්රෙකින් පිරිකෙව් කොට එහි හිණිගෙවල් සිංහයින් බඳුකොට කරවිය. එහෙයින් සීගිරිනම්වී.
4 හේතෙමේ වස්තු රැස්කොට එහි සුරකිව තබා තමා නැබූ ඒ වස්තුන්ට ඒ ඒ තැනින් ආරක්‍ෂා තබා එහි දැකුම් කටයුතු
5 සිත්කළු රජගෙයක් දෙවෙනි අලව්මඳුරවක් සේ කොට වෙ සමුණු මහරජහු සෙයින් එහි විසීය.—මිගාර නම් සෙනෙවි
6 තෙමේ සියනමින් පිරිවෙණක්ද එසේම අභිෂෙක පිළිම ගෙයක්ද කරවා සලපිළිමයට වැඩියේ එයට අභිෂෙක ඉල්
7 වා නොලැබ "ස්වාමීහු රජයෙහි අනිමැ" යි නැවැත්තේය.
8 ඒ කසුබ් රජතෙමේද විපිළිසරව තමා කළ කමින් "කෙසේ මිදෙම්දෝ" යි අපමණ පින් කෙළේය.
9 හේතෙමේ නුවර දෙරටුවල මහවතු කරවී. ලක්දිව්හි
10 යොදනෙන් යොදන අඹ උයන්ද කරවිය. ඉසුරුමුනි විහාරය කරවා පෙර වස්තුවට වැඩියේ භොගග්‍රාමයන්ද විකිණ

11 ගෙණ ඒ විහාරය අයත් කොට දිනී. බෝය උපුල්වන්ය යන් නම් ඇති දූන් දෙදෙනෙක් ඇතිවූහ. මේ විහාරයට
12 උන්දෙන්නාගේ හා තමන් නම කරවී. ඒ විහාරය දෙන කල මහාවිහාරවැස්සෝ "පියා මැරූවහු කමැ" යි ලෝවැස්
13 සන් නින්දනිසා භයවූවෝ පිළිගන්ට කැමති නුවූහ. ඒ රජ තෙමේ උන්වහන්සේලාටම දෙනුකැමතිවූයේ පිළිමයට දිනී. භික්ෂූහුද "අපගේ ශාස්තෘහුගේ භොගය" යි ඉවසූහ.
14 එසේම ඒ රජතෙමේ සීගිරිගල සමීපයෙහි පුදනලද උයන්හි
15 වෙහෙරක් කරවී. එහෙයින් (ඒද) ඔවුන් නම් විය; සිව්පස යෙන් යුත් ඒ විහාරයහා උතුරුදිග උයනද ධම්මරුචික
16 භික්ෂූන්ට රජතෙමේම දිනී—සත්‍රියන්විසින් තැඹිලිකි රෙන් පිසනලද බතක් ගිතෙල් මුසුව සකස්කරණලදුව සහ
17 පත් සූපයන් සමග දුන්නා අනුභවකොට "මෙය ආයඝ්‍යන්ට මැනව ආයඝ්‍යන්ටද මෙබඳුකොට බත් දෙමැ" යි එවැනි බත් (සපයා) සියලු භික්ෂූන්ට සිවුරුසහිත කොට දුන්නේයි.
18 පෙහෙවස් විසී සතර බ්‍රහ්මවිහාර භාවනා කෙළේ; දුහඟ සමාදන්වී. පොත්ද ලියවී. අනල්පවූ පිළිමගෙවල් දන්සල්
19 ආදිය කරවී—හේතෙමේ පරලොවින් හා මුගලන් කුම රහු කෙරෙන්ද බියව වැටෙයි.
20 ඉන් අටළොස්වන වස්හි මහාභට මුගලන් කුමරතෙමේ නිවටුන් ආඥයෙන් අග්‍රවූ දෙළොස් සහලු කෙනෙක් ඇත්
21 තේ දඹදිවින් මෙහි අවුත් අඹකොලපට්ටනෙහි පොරෝ වෙහෙර බලඇණි බැන්දේය. රජතෙමේ එපවත් අසා
22 "උහු ගෙණ කමැ" යි කියා නිමත්තපාඨකයන් විසින් "නො
23 හැක්කැ" යි කියදිත් මහාබලඇතිව නික්මිනා—මුගලන් කුමරද සැරහුනු බලසෙන් ඇතිව සූරයන් සහලුකොට ඇත්තේ අසුර සමර වදනා සක්දෙව් රජහු සෙයින් අභි මුඛවිය.
24 ඒ දෙසෙනග බුන් වෙරලැති සයුරුසේ උන්නුන්කරා
25 එලඹ මහයුද පටන්ගත්හු—කසුබ්රජ ඉදිරියෙහි මහමඩ
26 වළෙක් දැක අනික් මගෙකින් යන්ට ඇතු පෙරළීය. ඒ දැක
27 උහු සේනාතොමෝ "කොල අපහිමියා මේ පලායෙ" යි කියා බිදිනී. මුගලන් භටයෝ "(සතුරන්) පිටු දක්නාලදැ" යි
28 අරගල කළහ. ඒ කසුබ් රජ සිරියෙන් සිය හිස සිඳ* අහ සට දමා සිරිය කොපුවෙහි බැහීය. ඒ මුගලන් කුමර උහු

---

* නිකරණෙන—සිරුරෙන් තොරකොට
නිකකරණී॰ 44 පරිච්. ගය iii.

ගේ ක්‍රියායෙහි පැහැද ආදාහන කිසකොට සියලු උපකරණ ගෙණ උතුම් නුවරට හෝ අනුරා පුරට ආය.

29 භික්ෂූහු එ පවත් අසා මනාකොට හැඳ පෙරව විහාරය හැමද පිළිවෙළින් සිටියහ. ඇත්පව්රෙන් බැහැර මහ සෙන් නවතා දෙව්රජ නඳුනුයනට සෙයින් මහමෙව්නා 30 උයන් වැද, ඒ සඞ්ඝයාකෙරෙහි පැහැද සමීපයට එළඹ 31 වැඳ සේසතින් පිදී. සඞ්ඝතෙමේ එය උහුටම දීන〜එ 32 තැන ඡත්තවඩ්ඪි යන නමින් ව්‍යවහාර කළහ. එහි කළ පිරිවෙණද ඒ නම් වී.

33 මුගලන් කුමර නුවරට ආයේ විහාරවයටම ගොස් එහි සඞ්ඝයා වැඳ මහරජයට පැමිනි ලෝකය දැහැමින් රැක් කේය.

34 හේතෙමේ " ඇමතියෝ මා පියා මැරූවහු අනුගත වූහ"යි කිපියේ (ඇමතියන්) දායාද බැහැර කරවිය. එහෙයින් රකුසු 35 නම් වී. ඒතෙමේ ඇමතියන් දහසකට වැඩියක් විනාස 36 කෙළේය. එසේම බොහෝදෙනා කන් නාසා කැප්පවී. රටින් නෙරපී. පසුව සදහම් අසා සන්සිඳී පහන් සිත්ඇත්තේ 37 පොළෝතෙලෙහි මේඝසෙයින් මහදන් පැවැත්විය. ඒ තෙ මේ හවුරුදුපතා දුරුතු මැදිපොහෝද දන් පැවැත්වී. එ 38 තැන් පටන් ඒ දානය ලක්දිව අදදක්වාත් පවතී〜පිය රජහට විලඳදුන් ඒ රියදුරුතෙමේද පියරජු දුන් සන්දේශය ගෙණ මුගලන් රජහට දැක්වී. රජතෙමේ ඒ දැක හඬා 39 තමාකෙරෙහි පැවති පියන් පෙම් වණා උහුට දොරටුපාල නායක තනතුර දීන.

40 මිගාර සෙනෙවිතෙමේ විධිවූ පරිද්දෙන් රජහට දන්වා අභිෂෙක පිළිමයෙහි අභිෂෙකය රිසිසේ කෙළේය. සීගිර 41 දළුහ නම් විහාරයද දාඨාකොණ්ඩඤ්ඤ නම් විහාරයද බගිරි 42 නක දෙනානක භික්ෂූන්ට දෙවී. හේතෙමේ එම සීගිරිගල විහාරයක් කොට දික්සඳසෙනෙවියාකළ විහාරයෙහි මහා 43 නාම තෙරුන්ට දෙවී. මහානුවනැති ඒ රජතෙමේ රාජන නම් මෙහෙණවරක් කොට දෙනානක භික්ෂුණීන්ට දීන.

44 ලම්බකර්ණ ගොත්‍රයෙහි උපන් දාඨාපභූති නම් කිසිවෙක් කසුබ් රජහට උපස්ථානයෙහි කලකිරුණු සිත් ඇත්තේ 45 මෙරෙලියවගට ගොස් එහිම වාසය කෙළේය. සිලාකාළයයි ප්‍රසිඬ උහුගේ එක් පුතෙක්ද වී. හේතෙමේද කසුබ් රජහට 46 භය ඇත්තේ තමානෑ මුගලන් කුමරුහා මෙසින් දඹදිව් 47 තල ගොස් බෝමැඩ වෙහෙර පැවිජිපැමින ප්‍රියශීලීව ආදර 48 සහිතව සඟවත් පිළිවෙත් කෙරෙමින් (වසන්නේ එක් දව

සෙක) අඹයක් ලදින් සඟනට දින. සඞ්ඝතෙමේ උහු
කෙරේ පැහැද අඹහෙරණැයි වදාළේ එහෙයින් ඒ නම්
49 ඇති වී. හේතෙම කෙහෙදාවස්හි තීපරිද්දෙන් කෙහෙදා
ලැබ දඹදිවින් මුගලන් රජහු රජකරණකල මෙහි ගෙ
50 ණය. (රජතෙමේ) උහුට සත්කාර කොට කෙහෙදා ගෙණ
මාහැඟි පිළිම්ණි කරඬුවෙක්හි ලා දිවකුරුබුදුන් උතුම් පිළි
51 මගෙහි වඩා මහ පෙරහරින් පුදපැවැත්වී. ඒ තෙමේ මයිල්
52 හුද උහු බිරින්දද රන්මුවා රුකොට එහි තැබී. (එසේම)
53 පිළිමද මනා අස්රුවක්ද තැබුයේ. කෙස්දාකරඬුවද ඡත්‍ර
යක්ද රුවන්මඬුවක්ද අගසව්යුගලයද වල්විදුනාවක්ද
54 කරවී. රජතෙමේ තමහට අධික පෙරහර උහුට දින. සිලා
55 කාළයන් අසිග්ගාහක කොට ආරක්‍ෂා පිණිස යෙදී. එහෙ
යින් අසිග්ගාහක සිලාකාළයයි පසිදු වී. රජතෙමේ භොග
යන්හා තමා බුහුනනියන් උහුට දිනි. මේ කියන ලද්දේ
56 ඉතා සඞ්ක්‍ෂෙපයි. මෙහි විස්තරය සර්වප්‍රකාරයෙන් පැ
ණැත්තාහුවිසින් කෙස්දාවසින් ගතයුතු.

57 හසුරින් අරක් බැඳ ලක්දිව නිර්භය කරවිය. දහම්සහිත
58 බුදුසස්න දැහැමෙන් සෙමෙන් ශුඩකෙළේ. උතුරුසෙනෙවි
තෙමේ සියනමින් ප්‍රධානගේ කරවිය. ඒ රජතෙමේ මෙසේ
පින් කොටගෙණ අටළොස්වනු වස්හි මරණගත වී.

59 මෙසේ අතිබලි කසුබ් රජුගෙන් දිනුයේත් කළපින් ගෙවූ
නු කල තමාකරා පැමිනි මරු දිනනු නොහැකිව හේතෙ
මේම දසෙක්සේ විය; එහෙයින් නුවනැත්තෝ මරහු බල පැ
හැර සුවපත් වන්නෝය; තමා හඳුනන්නාහුවිසින් ශාන්ති
පදවූ චුතිරහිතවූ පරම නිර්වාණය ලැබ්බ යුත්තේය.

මෙතෙකින් හුදිජනයා පහන්සංවෙගපිණිස කළ මහ
වස්හි රාජවයදිපන නම් එකුන්සාළිස් වන අදියර නිමි.

---

# 41 වෙනි පරිච්ඡෙදය.

1 ඒ මුගලන් රජු ඇවැමෙහි කුමාර ධාතුසෙනයයි ප්‍රසිඩ
උහු පුතෙක් දෙවියන් සමාන රූ ඇත්තේ මහාබලඇති
2 රජෙක් විය.* පියහුවිසින් කරවනලද වෙහෙර නවකම් කෙ

---

* "ඉති සිංහලකවෙඃ කුමාරදාසස්‍ය කෘතෞ ජානකීහරණෙ" යනාදිය ජා
නකීහරණනම් ප්‍රසිඩකාව්‍යයෙහි පැණෙ,

එසේම පැරකුම්බාචරිතනම් සිංහලකාව්‍යයෙහි
"වෙහෙරදසටක්,යි පටන්ගෙණ" කුමරදස් රඳ කාළිදස්නම් කිවිඳුහට සිය
දිවි පිදී" යනාදීකාරණා මෙහිදී සැලකියයුතු.

3 ලේය. දහම් සඟායනා කරවා සස්නා පිරිසිදු කෙළේය. සිව්
4 පසින් මහසඟහු පිනවි. නොයෙක් පින්කම් කොට නව
වෙනි වස මෙළේය—උහුපිත් කිත්සෙන් කුමර රජ
පැමිනා නොයෙක් පරිද්දෙන් පින්කම් කොට නවවෙනි
මස්හි ඒ රජය හැරියේයි.

5 මසිල් සීවතෙමේ උහු මරා රජව අපමණ පින්කම් කොට
6 පස්විසිවෙනිදා උපතිස්සහුවිසින් නසනලදී—සීවකා රජු
මරා උපතිස්සතෙමේ රජවිය. මුගලන් රජහු බුහුනන් සැමි
7 තෙමේ සෙනෙවිරත් විය. උපතිස්රජතෙමේ තනතුරු
ආදින් ජනසඟුහ කොට සිලාකාළයහට හොගයන් සමගා
දුව දුන්නේය.

8 උපතිස් රජහුගේ කාස්‍යප නම් එක් පුතෙක් වී; සූරවූ හේ
තෙමේ සුරුවූ සොළොස් මිතුරුකෙනෙකුන්හා යහලුව දුනා
9 මානා මහාධනකොට ඇත්තේ ඒකවෘතනිවූ යහලුවන්හා දැ
හැමෙහි සිටියේ විය්‍සීයෙන් ජීවත්වන්නේ මොනවට කුල
10 දෙටුවන් පුදදි. ඉක්බිති සිලාකාළතෙමේ රාජ්‍යලොභයෙන්
රුවටුනු සිත්ඇතිව දකුණු මලයට ගොස් මහබල කැටි
11 කොටගෙණ පසල්දනව්ව කොල්ල කමින් නුවරවෙත පැ
මිනියේය. ඒ අසා දෙටුකසුප්තෙමේ පියහු අස්වසා උතුම් ඇ
12 තෙකු නැගී යහලුවන් ගෙණ නුවරින් නික්ම සිලාකාළයා
ගේ දක්‍ෂිනයට ගියේය. (ඒ සිලාකාළතෙමේ) මෙසේ සත්
13 අටවරෙක සැඟවුනු පැවතුම්ඇතිව පලාගියේ නැගෙණ
හිරි බටහිරි දේසයත් උපායෙන් අත්කොටගෙණ නැවත
14 නැගෙණහිරි තිස්පව්වට යුදපිණිස ආයේය. කසුබ්කුමරද
ඇතෙකු නැගී යහලුවන්හා එහි ගොස් සොරු පලවා මහ
15 ඇතු පව්මුදුනට නැංගවිය. එහෙයින් ගිරිකසුබ්ය යි නම් වී.
තදමන් ඇති සිලාකාළතෙමේ බොහෝසේ රට හෙදකොට
16 සියල්ල අත්පත් කොට ගෙණ (පරාවිසින්) නොදිනියහැකි
17 බලවාහන ඇතිව අවුත් නුවර ඇවිරීය. රාජසේවකයෝ සත්
දවසක් යුදකොට තුනීවූහ. ඉක්බිති කසුබ්කුමර මෙසේ
සිති. "නුවර වටලීමෙන් මේ සියලු ප්‍රාණීහු බිදෙති,
18 බලයද පිරිහිනා රජතෙමේද අඳය මහළුය. මා මව් පියන්
19 මෙරකඳුරු රට හිඳුවා බල එක්කොටගෙණ පසුව සොර
20 තෙමේ නිග්‍රහකටයුතුය" යි සිතා හේතෙමේ රාත්‍රියෙහි යහ
21 ලුවන්ද රාජෝපකරණද මව් පියන්ද ගෙණ මලය රට
බලා නික්මිනා. එකල මගානියන්නෝ සමමුළුවූහ, මග
නොදන්නෝ නුවරවෙතම ඔබ මොබ ඇවිද්දූහ.

22 සිලාකාළතෙමේ එ පවත් අසා වේගයෙන් අවුත් වටලීය.
23 එහි බියකරු යුද විය. දිව්‍යසුරයුඬ බඳු මහායුඬ පවත්නා
24 කල යහළුවකුදු වැටුනු කල මහඇතුදු පසුබස්නාකල තමා
25 හිස කපා ඇතරුවාට දී සිරිය ලේ පිස කොපුවෙහි බහා ඇත්කුඹ වැතිරගත.

26 උපතිස් රජද ඒ අසා සෝක නමැති හුලින් පහරණලදින් මෙළේය. මෙසේ එකඩවසකින් උපතිස් රජු මළකල සිලා
27 කාළතෙමේ රජවිය. උහු පුර්වනාමයහා එක්කොට අඹහෙ රණ සලමෙවන් රජැයි ව්‍යවහාරකළෝය. (හේතෙමේ) තෙ ළෙස් හවුරුද්දක් වෙසෙමින් ලක්දිව දැහැමින් රැක්කේය.
28 මහාපාළි නම් බත්හල මාහැඟි රාජභොජනය දෙවී. ජන සමූහයාට හිතවූ හේතෙමේ වෙදහල්හි වැටුප් වැඩී. අව
29 සක්පාසා බෝපුදකෙළේ, පිළිමද කරවී. සියලු ලක්දිවි
30 වැසි සමණන්ට තුන් සිවුරු දිනි. ලක්දිව "කිසි සතෙක් නොනසාව" යි ව්‍යවස්ථා තැබී. තමාගෙණ කෙස්දු මොන
31 වට පිදී. රහෙරදකවාරයද බගිරිනකයට දිනි. හේතෙමේ මහනිකා සමණන්ගේ කුනානම් අස්න ගෙණ එහි බොධිය
32 වෙත තැබී. දිවිහිම්යෙන් ගණනපථාතික්‍රාන්ත පින්කම් කෙළේය.

33 මුගලන එසේම දඨාපභූතිය උපතිස්සය යි උහුපුතුන් තුන් දෙනෙක් වූය. ඉන් වැඩිමහල් කුමරහට නැගෙණහිරි රටද
34 ඇපා නම් තනතුරද දී "ගොස් එහි වස"යි යැවීය. හෙ
35 තෙමේද ගොස් එහි විසීය. මලයරජ අග තනතුරද දකුණු
36 රටද දී මධ්‍යමයා මුහුද රක්නා පිණිස යෙදී. යොවුනන්
37 අතුරෙන් මනා දැකුම්ඇති උපතිස් කුමරහු වනාහි වෙසෙ සින් මමායනය කරන්නේ තමාවෙතම වැස්වී.

38 ඒ අඹහෙරණසලමෙවන් රජු දෙළොස්වෙනි වස මෙ රටින් කසීරටගිය වෙළඳතරුණයෙක් ඒ කසීරටින් දහම් ධාතු මෙහි ගෙණය; දහම් නොදහම් විමසීමෙහි අදක්ෂවූ
39 ඒ රජතෙමේ දැක 'රණැ' යි සිතා පහන වැටෙන පළගැටි යෙකු සේ "බුදු දහමෙකැ" යි සිතා ඒ ගෙණ මොනවට
40 සත්කාර සම්මාන කොට රජගේ වෙත ගෙයෙක්හි තබා ප්‍රා ණීන්ට පථ්‍යයෙකැයි සිතා අවුරුදුපතා දෙනානකයට ගෙ ණවුත් සැණ කෙළි කෙළනට චාරිත්‍රයක්ද කෙළේය.

41 සිලාකාළතෙමේ මෙසේ අපමණ පින්කම් කොට තෙළෙස් වෙනි වස පැමිනි කල කම්වූපරිද්දෙන් මිය පරලොව ගි
42 යේය—එකල විකෘතබුඩිඇති දඨාපභූති නම් මලයරජ රජයගෙණ "ක්‍රමය නොවේය" යි වලකනා සියමලු මැරවිය.

43 ඉක්බිති ඈපා මුගලන් කුමර එ පවත් අසා ‘ නොපත්
රජය ගත; ධර්මවාදී කිස්දෙවුන් මා මලු නොකරුණෙහි මැර
44 විය; මම දැන් රාජ්ජයක් කරවන්නෙමැ” යි කිපී මහසෙන්
ගෙණ රෙහෙරපව්වට පැමිනියේය. රජතෙමේද ඒ අසා සැර
45 හුනු බලඇණි ඇතිව කිරිදිගල කඳයුරු බැන්දේය. මුග
46 ලන් කුමර එපවත් අසා “ ලක්දිව් වැසි මිනිස්සු තුඹටහෝ
මටහෝ අපරාධඇත්තෝ නොවෙති, අප දෙන්නාගෙන්
47 එකෙක් මළකල ඉතිරියාට රජය වන්නේය; එහෙයින්
අන්‍යයෝ යුධ නොකරෙත්වා; මෙහි අපිදෙන්නා ඈත්යුදු
කරමු ” යයි රජහට හසුන් යවීය. හේතෙමේද “ මැනව ” යි
48 කියා බැඳිපසවි ඇත්තේ ඇතු නැගී මුනිරජුට මාරයා සේ
එකෙණෙහි ආයේය. මුගලන් කුමරද සැදී උතුම් ඇතෙකු
49 නැගී එසේම ආයේය. ඒ මහඇත්තු උතුහුන්කරා ආහ.
50 (ඇතුන් ඉස්)පහටකල සෙනහඩ සෙසින් ශබ්දය ඇසිනා; දළ
පැහැරීමෙන් විදුලිසේ ගිනිසිළු නැංගේය. ලෙහෙවැතුණු
51 ඇත්තු සඳවලාබඳු වූහ. මුගලන් කුමරහු ඇතුවිසින් විදු
52 නාලද රජහු ඇත්තෙමේ පසුබැස්සේය. රජතෙමේ ඒ දැක
සියඉස සිඳිනට පටන්ගත——ඉක්බිති මුගලන්කුමර
53 “නාහමක් මෙසේ කර ” යි වඳිමින් ආයාචනා කෙළේය. අය
දනාකල්හිද හේතෙමේ මන්පුදමින් ගෙළ කපාගත. ඒ
54 දුඨාපහුති රජතෙමේ සමස් සඳවසකින් රජය හැරියේය.

ඉක්බිති මහබලඇති මුගලන්කුමර ලක්දිව රජවිය. මසිල්
55 රජහු සඳහා මොහු සුලුමුගලන් නමින් ව්‍යවහාරකළෝ. හේ
තෙමේ අසදෘශ කවිය තුණුරුවන් පරම ප්‍රතිෂ්ඨා කෙළේය,
දන්දීම සන්සුන්බව පිරිසිදුබව සූරතබව යනාදී ගුණයන්ට
56 ආවාසයෙක් බඳුවී, දානයෙන්ද ප්‍රියවචනයෙන්ද වැඩට හැසි
57 රීමෙන්ද සමානාතමතායෙන්ද මහජනයා සඟ්‍රහ කෙළේය,
පිඩපාතය විහාරය බෙහෙත්ය සිවුරුය යන සිවුපසයෙන්හා
58 ධාර්මික ගොපනයෙන්ද බික්සඟහු සඟ්‍රහ කෙළේ, ධර්මභාණ
කයන් අතිරෙක පූජවෙන් පුදා අටුවාසහිත තෙවළාව කියවී,
59 ධර්ම ප්‍රදීපවූ මහනුවනැති ඒ රජතෙමේ රිසිපරිදී වැටුපින්
දරුවන් නලවා හැමකල්හි දහම් හැදූරවී. පුරුෂොත්තමවූ
60 හේතෙමේ දහම්කව් බැඳ ඇත්කුඹෙහි මිනිසුන් හිඳුවා රාත්‍රි
61 ධර්මාවසානයෙහි නුවර කියවී, පර්වතය මැදින් කොළොම්
හොය බැඳවී, දීඝායුෂක හෙතුක්‍රියායයි ආදරසහිතව පත්ප
62 හන් වැව දනවැව ගිරිතරවැව බැඳවී. සඳහම්ද ලියවී, තුණු
රුවන් පූජාද කෙළේ, මවුතොමෝ ඔර වැඩූ පිතක්හු සෙ
63 යින් ඒතෙමේ ලොවට අනුකම්පාකොට කැමතිපරිද්දෙන්

(දන්) දී (සම්පත්) අනුභවකොට විසිවෙනිවස මෙළේය,
64 ඒ සුලුමූගලන් රජහු මෙහෙසිතොමෝ විස යොදා නැයන්
මරා පිත්හු රාජ්ජයෙහි අභිෂෙකකොට තොමෝ රාජ්‍යය වි
65 චාළාය. එසේ අභිෂෙකලත් ඒ කිත්සිරිමේ රජතෙමේ පළමු
කොට තුඹුපතින් බෝගෙය වැස්විය ; දුගීමගී යාචකයන්ට
66 මහදන් පැවැත්වී. හේතෙමේ සතරමංසලක්සේ සියල්ලන්
67 විසින් උපභොග කට හැකිවිය. එකල මහෙසිකාතොමෝ
සියලු කම්හි ප්‍රධානවූවා, එහෙයින්ම උහුගේ රජය උඩුයටිව
68 පෙරලින රාජ්‍යප්‍රතිෂ්ඨා මහඇමතියෝ අත්ලස් පරවස
වූහ. ජනපදවාසී බලවත්හු දුබ්ලයන් පෙළූහ.
69 අඹහෙරණ සලමෙවන් රජු දවස සංගිල්ලාගම අභයසීව
70 නම් අන්‍යතරයෙක්වී. මේතෙමේ මෞර්ය්‍යවංශජය. අක්බෝ
නම් (ඒ) සීවයා පුතෙක්විය. මහානාගයයි ප්‍රසිද්ධවූ උහු බෑ
71 නෙක්දවී. බැහැනවූ මහානාගතෙමේ අක්බෝ සෙසින්
මනාවී. මහාබලඇති ඒ මහානාගතෙමේ උදාර අධ්‍යාස
72 හෙයින් කෘෂිකම් හැර වෙනෙහි සොරකම් කෙළේය. හෙ
තෙමේ ගොයෙක් ලැබ නෑන්දනියන් වෙත එවී. ඕතො
මෝ ගොයා දැක හැඳින වී පැසක් යැවූවා; කඹුරාහට සාවෙ
73 කූ එවී. හේතෙමේද එසේම කෙළේය. බූහුනනියගෙන්
වී ඉල්විය. ඕතොමෝ වී ගන්නා දාසයෙක්ද උහුට දී රහස
74 ආහාරපානාදියෙන් පොෂ්‍යය කළා — එකල දුර්භික්ෂකාල
යෙක්හි එක් මන්ත්‍රධර මිනිසෙක්තෙමේ සෑදෑහැතියන්ගෙන්
75 පිඬු ලබන පිණිස මහණවෙසින් සිගයි; ඒ තෙමේ ගමට
76 වැද කිසි අහරක් නොලදින් සසින් පෙළුනේ වෙවුලමින්
77 බැහැර යයි — මහාආදරඇති මහානාගතෙමේ උහු
දැක කරුණා කෙරෙමින් පාත්‍රය ගෙණ ගම මුළුල්ල ඇවි
78 දත් කැඳපමණකුත් නොලදා; ඉක්බිති උතුරුසළුවදී ආහාර
ගෙණය; මතුරුදන්නා තැනැත්තේ ඒ ආහාර අනුභව කො
79 ට පෑහැද මොහු මේ දිව්හි රාජ්‍යහී කෙරෙම් සිතා උහු
ගෙණ සැණෙකින් ගොකන් මහමුහුදු ගියේය.
80 ඉක්බිති ඒ මුහුදවෙත හිද විඩිවූ පරිද්දෙන් ජපකෙරෙ
මින් දුරුතු පුණ්‍යපොහෝ රූහි මන්ත්‍රයෙන් නාගේන්ද්‍රයෙක්
81 ගෙණය. “ මහානාගයා සපර්ශකර ”යි මහානාගයා මෙහෙයී.
හේතෙමේ හයවූයේ පෙරයම ආ ඒ නාගයා සපර්ශ නොකෙ
82 ළේය. මැදියමද එසේමැයි. පසුයම වනාහි නගුට ගෙණ දැමූ
යේය. ඒතෙමේ මෙසේ තුණහිල්ලකින් උහු සපර්ශ කෙළේයි
83 (මන්ත්‍රධර)තෙමේ ඒ දැක උහුට ප්‍රකාශ කෙළේය “ මාගේව්‍යා
යාමය සඵලය තෝ තුන්රජෙක්හා යුද්ධ කොට සතර වැන්නා

84 හූ මරා මහළුවූයේ රජව තුන්හවිරුද්දක්ම ජීවත්වන්නෙහි. එසේම තා වස උපන් මිනිස්සු තෙදෙනෙක් රජවන්නාහ. ගොස් රජහු සේවාකර, පසුව මා බල දක්නෙහිය" යි මෙසේ
85 කියා යවිය. හෙතෙමේද ගොස් රජහු දැක උපස්ථාන කෙළේ
86 ය; රජතෙමේ උහු රුහුණු කැම්යෙක් කෙළේය. හේතෙමේ එහි උපදනා බොහෝ බඩුගෙණය. රජතෙමේ උහුකෙරේ පැහැද උහුට අඤබසෙනාපති නම් තනතුරුදී එහිම යන්ට
87 යෙදී. අභයසීවයාගේ පුත්‍රද තමා බෑනාද ගෙණගොස් ඒ
88 දෙශය සර්වප්‍රකාරයෙන් පෙරළීය. ඒතෙමේ රුහුණ ප්‍රත්‍ය
89 ක්‍ෂහොග කොටගෙණ එහි වෙසෙමින් මහාබලඇත්තේ
90 දාඨාපහුති (නම් මලයරජු) හා යුද කරනට ගොස් මුගලන්
91 කුමරහට හයින් පෙරලා රුහුණු ගොස් එහි විසීය. කිත්සිරිමේ රජහු රජයෙහි මනා මංබැව් අසා "රාජ්‍යය ගැන්මට කාල
92 ය" යි රුහුණින්වහා අවුත් එක්විසිවෙනිදා රජහුමරා තෙමේ මිහිපල්ව දෙශය පෙරසේ කොට "එව" යි කියා බෑනාට
93 පතක්යැවිය. හේතෙමේ එමින් නිමිත්තකින් පෙරලා ගොස් මෙළේය. ඉක්බිති කෙළෙහිගුණදන්නා (ඒ මහානාග රජ
94 තෙමේ) මයිල්පිත්හු උපරජ කෙළේය. හේතෙම මහබෝ
95 වෙහි තොනැන්න කොට රන්මුවා ගෙය වැස්විය. මුනිරජහු පිළිමද තැබී. මහසෑතුණෙහි සුණුකම්හා කොත්කැරලිද
96 කෙළේය. ඇත්පවිරද කරවා සිතුයම් කරවී. ඒතෙමේ උතුරු
97 දිග ජම්බලානම් පෙහෙරගම්ද සියඹලාගමද මහා විහාරයට
98 බැද දීන. උඩුගම්හි වැහැප්ගම ජේතවනයට දීන. තුන් නකයෙහිම වසනුදූන පැවැත්වී.

99 කෙත් තුන්සියයක්දී ජේතවන විහාරයෙහි භික්‍ෂූන්ට සර්වකාලික කැඳ දානයක් එහි පැවැත්විය. දුරතිස්වැවින්
100 කෙත් දහසක් දී මහවෙහෙරවැසි තපසුන්ට නිති කැඳ දන් පැවැත්වී. ගුණයෙහි ඇළුනු රජතෙමේ චීරමානික
101 වාරයද මහවෙහෙරටම දීන. මොනර පිරිවෙණද නවකම් කෙළේයි කසීකඩ මාදෙව්රත්කුරවනම් වෙ
102 හෙර දිරූ අනුරාරාමයද පිරියම් කෙළේය. නරෙශ්වර තෙමේ මේ ආදී දෙව්ලොවට හිතකම් කොට තුන්වසෙ කින් දෙව්රජසහබ්වට ගියේය.

103 තුටුසිත්ඇති වෙසමුණු මහරජහු සේ අපමණ සමපත් ඇති මේ රජහු අටදෙනා මිනිස් ඇත් අස් සූරසේනා රථයෙන් බබලන්නෝ වූහ; කෙළවර ඒ සියල්ල හැර කිසි පරිජනයක්හු නැතිව හෙවත් හුදකලාව සොහො

නට ගියහ; තමහට වැඩකැමති නුවනැත්තේ ඒ සිහි කෙරෙමින් බවසුව වම්මන කැමැතෙත් වේවා.

මෙතෙකින් හූදිජනයා පහන්සංවෙගපිණිස කළ මහ වස අග්‍රරාජතනම් එක්සාළිස්වන අදියර නිමි.

---

# 42 වෙනි පරිච්ඡෙදය.

---

1 (ඉක්බිති) මහානාග නරනිඳුහු මයිල්පත් මනා පින් ඇති බුදුබව බලා ආසේවිත අදහස් ඇති ඒ අක්බෝකුමර
2 රජවිය. (ඒ රජතෙමේ) තෙදින් හිරුද සොම්ගුණෙන් සු පුන්මඬුලු සඳද නිසල ගුණෙන් සුනෙරද ගැඹුරු ගු
3 ණෙන් මහමුහුදද නොකැපිගුණෙන් මහපොළවද සම වැටුමෙන් පවනද නුවනින් සුරමැතිහුද සුදුගුණෙන් සරා
4 අහසද කම්සුවෙන් දෙව්දුද සමපතින් වෙසමුණුහුද දහමින් හුදුවසිටුහුද විකුමෙන් මිඟිඳුද රජදහමින් රජයෙන් සක්විති
5 නරඉසුරුද දනයෙන් වෙසතුරුරජුද අනුව ගොස් ලෙව්
6 හි පසිඳුවී. ඒ රජතෙමේ මයිල්හු උපරජයෙහිද සොහො
7 යුරුහු යුවරජයෙහිද බෑනා මලයරජතනතුරෙහිද පිහි ටවිය. ශ්‍රෙෂ්ඨආඪ්‍යයන් යෙදෙනසේ ඒ ඒ තනතුරෙහි
8 පිහිටවී. ජනයා සගරවතින්හා රජදහමින් සඟුහ කෙළේය, සෙන් සහිත දකුණුරට යුවරජහට දින. හේ තෙමේ එහි වෙසෙමින් සිරිවඩමන් වැව බැඳවී— මහාපැණැති (රජ
9 තෙමේ) සඟ සතු ගිරිවෙහෙර තනා සඟහු හොගපිණිස කෙත් දෙසියයක් එම වෙහෙරට දෙවී. මලයරජහට දළ
10 නම්සියකුමරිය දින. සිරිසඟබෝනම් පිරිවෙණද කරවී. මහාසීව (තෙරුන්ට) සියනමින් පිරිවෙණක්ද කරවී.
11 උහුගේ පිරිවරද මෙසේම පුණ්‍යපරායණ වී, සත්පුරුෂ සේවනයෙන් පුරාණ ධාර්මිකවිධිය කොට අනතරායවිශො
12 ධන සඳහා ජීර්ණප්‍රතිසංසකරණයද කෙළේය. ඒ රජහු රජකරණකල කවිවරයෝ සිංහල නිරුක්තියෙන් විසිතුරු
13 නසිත්සුකත බොහෝ කව් ගෙතූහ. දකුණු වෙහෙර ඉතා සිත්කළු පහයක් කෙළේය. නවහවුරුද්දකින් ලක්දිව කටු
14 ඉදිරවී කුරුඳුනම්වූ සර්වසාංඝික විහාරය කරවා එනම්
15 වැවද තුන්යොදුන් නෙරළු අරමක්ද ගොයම් කරවනු
16 සඳහා මහත් සීමා දෙකක්ද දින. ලාභ සත්කාරසම්මාන හා ආරාම්කයන් සියයක්ද දින.

17 ඒ වෙත ඇඹිල්පසනම් වෙහෙර කරවා එම නම් ඇති
18 ගමද මහා විහාරිය භික්ෂූන්ට දීන. උතු වෙල් වෙහෙර
පිළිබඳ බොහෝ කලක් වර්ණනා කරණ ලද රුවන් නම්
19 ගම දී සෙල්මුවා බුදු පිළිමය පිහිටවී. කෝලිවා (රට) සුමන
නම් පව්ව කරවිය. මහා තෛලාවාටයක් හා බෝගෙහි
20 ගල් පිළිකඩද කරවිය. ඒ රජතෙමේ ලොහො පාය කරවා
පහ පෙරගෙරෙහිදී සතිස් දහසක් භික්ෂූන්ට තුන්සිවුරු පිදීය.
21 දුවනියන් නමින් (පැවති) ගමක් පූද ආරක්ෂා තැබ්බවිය.
22 ඇත්කඳවිහාරයෙහි ප්‍රාසාදයක් නුවනැති ඒ රජතෙමේ කර
විය. දාඨාසිවනම් තෙරුන්ගේ අවවාදයෙහි යහපත්ව පිහිටා
දැහැමින් (සෙමෙන්) හැසිරෙන්නේ උන්වහන්සේට සකසා
23 උවටන් කෙළේය. එම රජතෙමේ විසල්වූ ගොළුසෙනෙ
වියා වෙහෙර කරවිය. ලජ්ජිකනම් ගම එක් (පැවිදි)
24 කෙනෙකුට දස භොගය පිණිස දීන. මහානාග රජහට
පින් පිණිස එනම් පිරිවෙණ කරවිය. රජතෙමේ ත්‍රිපිටක
ධාරී මහා ස්ථවිරහට එයද දීන. පහවූ ආසාඇති ඒ ස්ථවිර
25 තෙමේ තමන් සමානවූ තපස් ඇති සිව්සැටක් භික්ෂූන්ට
26 එකල ඒ වෙහෙර දුන්සේක. මහපිරිවෙන් වැසි එම තෙරනු
27 වන්ටම වටුකර පිටියෙන් භිනොනාරුචීපය දෙවා; දක්ෂිණ
ගිරි දළනම් වෙහෙරද මානාගල වෙහෙරද කළාවැව්ආදී
28 විහාරවලද පොහෝගෙවල් කෙළේය. අභයගිරි විහාර
යෙහි මහා පොකුණක් කරවිය. සැගිරිගලත් තිරදිය ඇති
29 නාග සොඩි (නම්) පොකුණ කරවිය. සකස්කොට මීන්
තලා වැවද කරවා මේ වැව සීමාවෙන් තෙරුන් වඩාගෙණ
30 එන්ට නියෝග කෙළේය. මිහිඳු මහතෙරුන් එතනට
පැමිනි කල තරච්ඡයෝම වඩාගෙණ එත්වයි කතිකාවත
31 කුදු කරවිය. ඒ තෙමේ තුන්නකයෙහිම සත්අට නාව වරෙක
32 මාහැඟි රුවනින් රන් සතද කරවී. මහා විහාරයෙහි සූවිසි
බරක් ඇති රන්මුවා සතද ඒ ඒ තැන මාහැඟි උතුම්
33 රුවන්ද පිදීය. දළදාගෙය තනවා විසිතුරු රුවනින් දිලි
34 සෙන රන් කරඬුවහා මහා පාළියෙහි ලොහො හොරුද
කෙළේය. ඒ රජතෙමේ මිණිමෙව්ලානම් (වැ) බැම්මද බැන්
දවිය. මිණිහිරි වැව්හි මහ මොව් ඇලද ගැන්වී.

35 එකල ජොතිපාලකනම් මහා ස්ථවිරකෙනෙක් ලක්දිව්හි
විවාදයෙන් වෛතුල්‍යවාදීන් පැරදවූසේක. පසුව දාඨා
36 පහුතිනම් ඈපානෝ ඉතා ලජ්ජාඇතිව උන්වහන්සේ පහ
37 රණට අත එසවූය. එකෙණෙහි ගඩුවක් උපන. රජතෙමේ
ඒ තෙරුන් කෙරෙහි පැහැද වෙහෙරම වැස්විය, මාන

38 යෙන් උන්වහන්සේ කරා නො අවුත් දූඨාපභූ තෙමේ මෙ
ළේල. බැන අක්බෝ කුමරහට මහ ඇපා තනතුරදී ඒ
තෙරුන් රක්නට නියෝග කෙළේය. හේතෙමේද එසේ
39 හැසිරින. ඒ තෙමේ නිල්ගේ පරිවේණදය කරවා උන්වහන්
සේටම දින. මෙසේ නොයෙක් පරිද්දෙන් පින්කම්කොට
සූනිස්වන හවුරුදුයෙහි (ඒ අක්බෝරජතෙමේ) මෙළේය.

40 ඒ රජහු ඇවෑමෙන් අක්බෝ මහා ඇපාතෙමේ රජවිය.
පූර්ව රජහු මහළු බැවින් මුහු කුඩා අක්බෝනමින් ප්‍රකාශ
41 කළහ. පූර්ව චාරිත්‍රයෙහි පඬිතවූ ඒ රජතෙමේ ලක්දිව පරි
පාලනය කෙළේයි. ඒ තෙමේ තමා මයිල්හු දියනියක් අග
42 මෙහෙසුන්ද කෙළේය. මෙහෙසිය නෑවූ සඞ්ඝභද්‍රකුමරහු
අසිග්‍රාහක කෙළේය. ආලය රහිතවූයේ සුදුසු පරිද්දෙන්
43 තනතුරුද දින. වේළුවන විහාරය කොට සාගලී භික්ෂූන්ට
නියොග කෙළේය. ජම්බුරනාරගලලහා* මාපිටිය කෙ
ළේය.

44 එම රජහුගේ කාලයෙහි කලිඟුරට රජතෙමේ යුදෙහි
සතුන් මැරෙන්නා දැක කලකිරුණු සිත් ඇත්තේ. මේ
45 ලක්දිව් අවුත් පැවිදි පිණිස කරණ ලද නිශ්චය ඇත්තේ
46 ජොතිපාලනම් මහතෙරුන් කෙරෙහි පැවිදිවිය. රජ
තෙමේ උන්වහන්සේට බොහෝ කලක් සත්කාර කෙළේයි.
47 මත්තපර්වත විහාරයෙහි උන්වහන්සේගේ පදන් තැන
කෙළේය——එසේම උන්වහන්සේගේ ඇමති තෙමේද
48 මහේසිකාද මෙහි අවුත් පැවිදිවූහ. රජහුගේ මෙහෙසි
තොමෝ ඒ බිසවගේ උතුම් පැවිද්ද අසා සකස්කොට උව
49 ටන්කළා. රතනානම්ද කරවී. රජතෙමේ ඇමති භික්ෂුහට
නැගෙණහිරි කඩරෙද වෙත්‍රවාස විහාරයද දින. ඒ යති
50 තෙමේ සඞ්ඝයාහට ඒ වෙහෙරදිනි. රාජස්විරතෙම මෙළේය.
රජතෙමේ සෝකව ගඩා සුළුගල්වෙහෙර පදන් තැන්කරවී.
උන්වහන්සේට (පින්පිණිස) පලංනගරගනම්තැන කරවිය.
රජතෙමේ මෙසෙස් උන්වහන්සේ පිණිස බොහෝ පිනුදු
කෙළේය.

51 ජොතිපාල තෙරුන් ථූපාරාමයෙහි සැය වඳනාකල ඒ
(සැයෙන්) භාගයක්බිඳී උන්වහන්සේ ඉදිරියෙහි හින.
52 දුඃඛිතවූ ස්විරතෙමේ රජු කැඳවා එය දක්වූසේක. රජ
තෙමේ දැක්මෙන්ම තැතිගත්තේ එකෙණෙහිම කර්මාන්ත
53 තැබීය. ඒ රජතෙමේ දකුණු අකුධාතුව ලොවා මහපා

* රත්ගිරිදඹුලද.

කූස අරතුන් සහිත කොට තඹබවා රු දෙවෙනි පූජා පැවැත්
54 විය. නවකම් කල්යත් ථූපාරාමයෙහි දෙවියෝ ඒ රජහට ආරා
55 මිකයන්සෙයින් පෙනී සිහිනයක් දක්වන්නෝ "ඉදින්
රජතෙමේ දාගෙය කරන්ට පමාවන සේක්නම් අපි ධාතුව
56 ගෙණ යම්කිසිතැනක යම්හ" යි දැක්වූහ. එකෙණෙහි රජ
තෙමේ පිබිදියේ තැතිගත් සිත් ඇත්තේ දාගෙහි සිතියම්
57 ආදියෙන් යුත්වූ සියලු කර්මාන්ත කල් නොයවාම කරවිය.
පිළිම සතරහා සෙල්මුවා පළගඳ රන්සතඳ ගෙහි සල
58 කම් දළකඩකම්ද සර්‍වාකාරයෙන් (කරවී). මහ ඇමති ආදිහූ
කරඬු එකසිය නවයක්හා දෙවෙනි පැතිසසරජහු විසින් කර
59 වනලද සියලු කර්මාන්තද අලුත්කොට කළහ. ඒ රජතෙමේ
යථාර්ථයෙන් සර්‍වොත්සාහයෙන් මහාපූජාවක් කරවා සර්‍වාදර
60 යෙන් ලොකොපායෙන් ධාතුව වඩාගෙණවුත් සඞ්ඝයා සහිත
ජෝතිපාල මහතෙරුන් පිරිවරා (ඒ අතු) ධාතුව පෙරහරින්
61 ධාතු කරඬුවෙහි වැඩූයේය. තමා සහිත මුළු ලක්දිව දා
ගෙට පිදීය. ඒ ගෙය ආරක්‍ෂා කරන්නන්ට මෙහෙසියගේ
62 ලාභග්‍රාමය පිදීය. නාගදිවයින රාජායතන ධාතුගෘහයද උණු
ලොම් ගෙයද අමලචෛත්‍යයෙහි සෑතද (කරවී). විහාරයට
63 කෑඳ දන් පිණිස තන්තග්‍රාමය දින. අගනසල්නම් ගම
අභයගිරි විහාරයට දින. ඒ රජතෙමේ තමන්හා බිසවගේ
64 නම් එක්කොට තබා දළඅග්බෝනම් අවස අභයගිරි විහාර
65 යෙහි කරවිය. ඒ දේවීතොමෝ සැපයුනු සිව්පස ඇති කබල්
66 නාවෙහෙර මොනවට කරවා එම විහාරයට පිදුවා. රජ
තෙමේ දෙනානකයෙහි රිදී සුඹුලුගෙය කෙළේය. ඒ තෙ
67 මෙම බෝගෙය වෙත ලිඳ කැණවී. ගංතලාවැව වලස්වැව
ගිරිතලාවැවද කරවී. බත්ඔරුද කරවා මහාපාළිනම් බත්
68 හල වැඩූයේය. මෙහෙසි තොමෝත් මෙහෙණින්ගේ බත්
වස අණකළා. ඒ රජතෙමේ මෙසේ පින්කොට දසවන
හවුරුදු යෙහි දෙව්ලොව ගියේයි.

69 සපත් සමෑත් ඇති පින් කිරියෙහි ඇළුනාවූ නරපතිහූ
පවා මෙසේ මරුහුගේ වසගයටම ගියහ ; එහෙයින්ම නුව
නැති සත්වතෙමේ භවයාගේ මේ ආකාරය මොනවට බලන්
නේ විධියෙන් නියමයහැර භවයෙහි ඇල්මහැර පැවිදිබවට
එළඹියේ ධෛර්‍ය්‍යඇතිව නිවන් බලා හැසිරෙන්නේය.

මෙතෙකින් හුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
ද්විරාජකනම් දෙසාළිස්වන අදියර නිමි.

---

# 44 වෙනි පරිච්ඡේදය.

---

1 ඒ සුලු අක්බෝරජු ඇවෑමෙන් සඟතිස් අසිග්ගාහකතෙමේ
2 මිහිපල් විය. යුක්තියෙහි ඇළුනු ඒ රජතෙමේ සසුන්ලෝ
3 වැඩ කැමැත්තේ සුදුසු පරිද්දෙන් තනතුරුඅදී ජනසඟ්‍රහ
කෙළේය.——එකල සුලු අක්බෝ රජහු සෙනෙවි මුගලන්
තෙමේ රුහුණු වසන්නේ සඟතිස්හු රජපවත් අසා යුද
4 පිණිස මහගල කඳවුරු පිහිටවිය. සඟතිස් රජතෙමේද එප
වත්අසා උහුහා යුදපිණිස බලසෙන් යවීය. මහාබලීමුගලන්
5 තෙමේ ඒ බලසෙන් බියගැන්විය. පසුව ඒ මුගලන් සෙ
නෙවිතෙමේ රුවෙහෙරනම් තැනට ගොස් බලසෙන් රැස්
6 කෙරෙමින් එහිම විසීය සඟතිස් රජතෙමේ නැවත අවුත්
කෙසෙල් නිවාතනම් තැනදී තමා බලසෙන් යවා උහු
7 පලවා නුවරට වන. නැවත මුගලන්තෙමේද නටුවාවූ සිය
සෙන් පියවිකොටගෙණ කරේහේරනම් පෙදෙසට පැමිනි
8 යේය.——ඒ සඟතිස් රජහු සෙනෙවිතෙමේ යම්කිසි මදකරු
ණකින් දුක්දෙම්නස් වූයේ සොරු වෙතට පුතු යවා දඩ ගි
9 ලන්වූවෙකුසේ ඇඳ වැතිරගත්තේය. රජතෙමේ එ පවත්
අසා එ කෙණෙහි උහුකරා එලඹ "එසේනම් තෝනහමක්
10 සෝකවෙහිවා මෙහි කටයුතු කුමරහට අනුශාසනා කෙරෙ
11 මින් නුවර රකු මාසමග යුඩභූමියට එන්ට ගිලන්හෙයින්
තට නොපිළිවනැ" යි යෙදිය.

සියලු ජනයා බැහැරලූ කල රජබොජුන් සූන්කළ කල
12 මහා පාළියෙහි උයනලද ආහාරය රජහට එලවූහ රජ
තෙමේ ඒ දුක කලකිරුණේ "මෙ පමණකින් කුඩා නො
13 වන්නේය" යි සිතා පුතු හා සමග ඇතු නැඟී ලනලද සන්
නාහයෙන් යුත්සෙන් ඇතිව යුද පිණිස වහා ගියේය. රජ
14 තෙමේ ඉතා මද සෙනගක්හා නැගෙණහිරි තිස්පව්වට පැ
මිනියේය. මෙසේ දෙයතින් සඟ්‍රාමය පැමිනිකල මිත්‍ර
15 ද්‍රෝහි ඒ සෙනෙවි තෙමේ පිටිපසින් යුද පටන්ගත. රජ
හුගේ පුතුතෙමේ ඒ දැක "මූ මරන්නෙමැ" යි කීය. රජ
16 තෙමේ "නහමක් තට රිසිවේවා මේ සෙනග ඉවසිය හැ
ක්කේ නොවේමය. ඉතා මද සෙනග නසන්නේය" යි වැ
17 ලකී. රජතෙමේ බලසෙන් දෙකට මැදිවිය, එ හෙයින්
රජසෙන් සොරුහා සෙනෙවියාපිණිස දුත්විය.

18 රජහු ඇත්තෙමේ මීරුක් සෙවනකට වන, එහි අත්තක

වැද ජේසත බිම හින. සොරඟු සෙනාතොම ඒ දැක ගෙණ
19 ගොස් හිම්හට දින. ඒ තෙමේ පව්මුදුනෙහි සිට ඒ සේ
සත නැගීය. එකල රජසෙනග "මේ තෙමේ රජ්ජුය්"යි
20 සිතා ගොස් උහු පිරිවැරූය. එකල රජතෙමේ හූදකලාවී.
21 ඉක්බිති ඇත්කඳින් බැස පුත්‍රද සුහෘත් ඇමතිද (කැටිව)
සම්පවූ මෙරමදරා වනයට වන.
22 ඉක්බිති ලබනලද ජය ඇති මුගලන්තෙමේ වාහනද
මිත්‍රද්‍රොහී සෙනෙවියාද උහු පවිටු පුතුද ගෙණ නුවරට
23 අවුත් ලඞ්කාතලාධිරාජවී. අනතුරුව "සතුරා ජීවත්වන
කල සුවනැතැ" යි සිතීය. හේතෙමේ "පූර්‍වරාජයාගේ
24 පිත් මෙහිය" යි අසා කෝපව වහා උහු අත් පා කපන්ට
ඇණවී. රජහු විසින් අණවනලද පුරුෂතෙමේ කුණු
25 යෙහි අත්පා කපන්ට උපක්‍රම කෙළේය. ඒ කුමාරතෙමේ
දෞර්මනස්ව "මාගේ කැවුම් කන අත් ඉදින් කැපුනම් එ
26 කල මම කුමකින් කැවුම් කන්නෙම්දැ" යි හැඬීය. ඒ
අසා රජු අණසේ කම්කටොල්දෙන අධම මනුෂ්‍යතෙමේ
හඬා වැලප රාජඥයෙන් මිරිකුනේ ඒ කුමරහු වම් අත
27 හා පය කැපීය.
28 රජහු අනිත් පිත් දෙවුතිස් කුමර වෙස්වලා මෙර කඳු
රැනම් මලය රටට ගියේය——ඉක්බිති සඟතිස් රජතෙ
29 මේ පුත්‍රාමාත්‍යයන් කැටිව රහස වේළුවනයට ගොස් එහි
භික්ෂූන් විසින් මෙහෙයනලදුව කසා පිළි හැන්දේය. මහණ
30 වෙස්ගෙණ රුහුණු යන්නා කැමතිව මිණිහිරි වැවට පැ
මිනියේය. එහි සිටි රාජ සේවකයෝ මේ තුන්දෙනාම හැඳින
31 ඔවුන් පා අවුරා රජහට හසුන් එවූහ. රජතෙමේ ඒ අසා
වෙසෙසින් තුටුව වහා එ තැනින් ඔවුන් ගෙණ ගොස් සී
32 ගිරට පමුනුවා සැක බිය නැතිව එහිදී රජුහා පුතු ඉස්
ගණුව. ඇමතියා වනාහි සජීවයෙන් මා වෙත ගෙණෙව" යි
33 අණකෙළේය. මෙසේ අණලත් මිනිස්සු ඒ තුන්දෙනා
ගෙණ සීගිරියට ගොස් නීවා කරන්ට පටන් ගත්හ එකල
34 රජකුමර ඒ කම්කරු මිනිසුන්ට "පළමු මා හිස සිඳ දෙව
ඒ මට සුවය" යි කීය. රජහුගේ මිනිස්සු එසේ කළහ, පසුව
35 රජහු හිස් සින්දහ. "අදෝමය කම්දත් ජනයිනි බාල
යන්ගේ ක්‍රියාවක් බලව්" සම්පත් වූ කලී මෙසේ අනිස
36 නොතිරය තමා වසඟ නොවේ පින්වත එහි ඇළුන තෙපි
37 නිති සුව වූ නිවන් කවර හෙයින් නො සොයද්ද.
38 හිතේසී ඇමතියහට දැන් රජුගේ හස්න කිවූය. ඒ අසා
සිනාසී මේ වදන් කීය "මා ජීවත්වනකල හිත් සිඳුනාලද

39 හිමිතෙමේ මාවිසින් දක්නාලද. අදෝමය උහු හැර අන් හිමියෙක් සොයම්ද මෙහි උහු මරා උහුගේ සෙවනැල්ල
40 ගෙණ යනු කැමැත්තව. අදෝමය තෙපි නුවන නැත්තාහ. උමතුවහයි සිතම්" මෙසේ කියා (මළ) ස්වාමියා පය
41 ගෙණ වැදහොත්තේය. කිසි පරිද්දෙකින් උහුවිසින් ඒ ගත් පාදයන් අරවන උපායක් නොදක්නා මිනිස්සු උහුගේද
42 හිසසිඳ හිස් තුණම එක්කොට ගෙණගොස් රජහට දැක්වූහ. රජතෙමේ නිර්භයව තුටුවී.

43 ඉක්බිති දුෂ්ඨසෙනෙවියාට මලයරජතනතුර දීන. උහු පුතු අසිග්‍රාහක තන තුරෙහි තැබීය. ඒ තෙමේ අළුත් ව
44 සතුයෙන් දහගැප් තුණම වැස්වී. එසේම ලක්දිව් තෙ
45 ලෙහි සියලු දාගැප්හි මහපෙළහර කරවිය. ඒ රජතෙමේ බුදුහු කේසධාතුය දළදාය එසේම මහබෝය යන මේ සක
46 සා මහ පූදයෙන් සත්කාර කෙළේය. වෙසක් පූජා ආදී චාරිත්‍ර ක්‍රමයෙන් ආ සියල්ල කෙළේය. ධර්ම කර්මයෙන්
47 සියලු බුදුසසුන් හුදු කෙළේය. මහා පූජායෙන් පෙළ සජ්ඣායනා කරවිය. ලාභ දී අතිරෙක පූජායෙන් බහුශ්‍රුත යන්
48 පිදිය. ලක්දිව් වැසි සියලු භික්ෂූන්ට සිවුරු දීන. සියලු ආවාසයන්හි කෙළින් ඇතිරවිය පිළිම කරවී. දිරුතැන්
49 නවහම් කරවී. තුන්සියයකට වැඩියක් ලුණුකෙත්ද සඞ්ඝයාට දීන. කරවිට මුගලන් වෙහෙර කරවීය, පිටිගම් වෙ
50 හෙර සංගමුව වටගමුව එසේම සැගෙයද රක්වෙහෙරද කරවී. ඒ රජතෙමේම බොහෝ විහාරයන්ට බොහෝ අයගම් දීන. මෙසේ ඒ රජතෙමේ අපමණ පින්කෙළේයි.

51 පළමු රජහුගේ සම්පත් අනිසබව මෙනෙහි කරමින් එකල කිසිදෙසකින් මලයරජහට කිපියේ එම මලයරජු
52 විසින් පූර්වරාජයහට කරණලද විප්‍රකාරයද මෙනෙහි කොට උපායෙන් උහු ගෙණ අත් පා කැප්පවී. එපවත් අසා
53 (මලය රජු පිත්) අසිග්‍රාහකතෙමේ පුතුන් සහිතව රුහුණු ගියේය. හේතෙමේ එහි වෙසෙමින් මදකලකින්ම ජන
54 පදය අත් පත් කොට ගෙණ මලයරට සැගවී සිටි දෙටු තිස් කුමරු කරා ආය. උහු හා ඒ තෙමේ වහා රට දනවි
55 නසමින් දෙළුගලට අවුත් කඳවුරු බැන්දේය. රජතෙ
56 මේ සියල්ල අසා සැරහුනු බලසෙන් සහිතව ගොස් උහු
57 වෙතම කඳවුරු බැන්දේය. එකල රජහුගේ බොහෝ මිනිස්සු ජ්වරයෙන් පෙළී මළහ. ඒ අසා අසිග්‍රාහකතෙමේ
58 වෙලෙව්ව යුද පටන් ගත. ඉතා දුර්වල රජසෙන් බිඳී පැලහ. ඒ රජතෙමේ පසුව පලාගියේය. ඒ අසිග්‍රාහකතෙමේ

59 සීගිරි පර්වත වෙත හුදකලාව යන මහරජහු දැක පිරිසත්
60 එක්කොට මැරවිය. පසුව එන දෙටුතිස් කුමරුත් මර
61 වන්ට "එව රජ වව" යි හස්නක් උහුට යැවී. දෙටුතිස් කුමර
ඒ දැන "හේතෙමේ දුකසේ ලත් රජය කෙසේ නම් මට
62 දෙයිද" යි සිතා හැර පලාගොස් මලය රටටම ගියේය.
63 ඒ අසිග්‍රාහකතෙමේ මෙසේ දලමුගලන් රජු සහවුරුද්
දකින් මරා බලසෙන් ලැබ පෙරලා අනුරා පුර අවුත් මිහි
64 තෙලෙහි අණසක් පැවැත්වී. සලමෙවන්නම් ඒ රජතෙමේ
සඞ්ඝයාහා බෝධිය වැඳ තුන්සැයට සත්කාර කෙළේය.
65 බත්හලද වැඩී. ඉතා දුක්ඇති සායෙහි ගිතෙල් උක්
සකුරෙන් සකස් කරණලද කිරිබත්ද පෙරහන්කඩද
66 සඞ්ඝයාට දින.
67 දුගී මගී යාචකයන් සියලු දනයෙන් සඟුහ කෙළේය. මහා
කරුණාඇති ඒ රජතෙමේ දරුවන්ට කැවුම් මිළද දින.
68 අභයගිරි විහාරයෙහි සෙල්මුවා බුදුන් පිළි. ඒ පිළිමය පිළි
බඳ දිරාගිය ගෙයද නන් රුවනින් විසිතුරු කොට කරවිය.
69 ඉලන්ද වැව පුදා ඒ බුදුන් ආරක්‍ෂාද සියලු උපහාරයෙන්
පූජාද හැමකල් පැවැත්වී.
70 පූණ්‍යභාජනවූ ඒ රජු මෙසේ වසනකල දෙටුතිස් කුමරු
මයිල් සිරිනාගනම් නායකතෙමේ එතර ගොස් බොහෝ
71 දෙමළුන් ගෙණ අවුත් උතුරු රට ගන්ට පටන්ගත. රජ
72 තෙමේද එ පවත් අසා ගොස් රජමිතුරා නම් ගම්හිදී යුද
කොට උහු මරා ඉක්බිති උහු හා ආ දෙමළුන් මරණලදින්
73 ඉතිරියන් ගෙණ නොයෙක් පරිභව කොට ඒ ඒ තැන
74 විහාරයන්හි දස්කොට දින—මෙසේ ලත් ජය ඇති රජහු
75 නුවරට අවුත් සියලු රට සුඩකොට කොයිතුත් බියනොව
වසන කල අභයගිරි විහාරයෙහි බොධිනම් භික්‍ෂුතෙමේ
76 උතසනාන දුස්සීලයන් දක හේතෙමේ පැවිදියෙන් බාල
වූයේත් රජු කරා එළඹ දහම් කම් ඉල්විය. රජතෙමේ උන්
වහන්සේ ලවා ඒ විහාරයෙහි දහම් කම් කරවිය. උන්
77 වහන්සේවිසින් බැහැර ලනලද සියලු දුස්සීලයෝ එක්ව
මන්ත්‍රණය කොට රහස ඒ දැමිහු මරා ඒ කර්මය ප්‍රතිබා
78 හණය කළෝය. එකල රජතෙමේ එපවත් අසා කිපියේ
උන් සියල්ල එක්කොට ගෙණ අත් කපා බැඳුම් පහිත
79 කොට පොකුණු පල්ලන් කෙළේය. ඒ අධිකරණයෙහි
අනික් සියයක් භික්‍ෂූන් දඹදිව ලැවිය. ඒ මරණලද දැහැ
80 මිහු උත්සාහය මෙනෙහි කෙරෙමින් සස්න ශුඩ කරවී.
ඔවුන් හා පොහෝකරණුපිණිස ථෙරියවාදික භික්‍ෂූන්ට

81 ආරාධනා කොට ප්‍රතික්ෂෙපකරණලද්දේ ඉතා කිපී අනා
දරව ආක්‍රොශකොට පරුෂ බසින් පරිභාෂණ කොට ඒ
82 භික්ෂූන් ක්ෂමා නොකරවා දකුණු දෙශයට ගියේය. ඒ
රජතෙමේ එහි වෙසෙමින් මහා රොගයකින් පෙළෙන
ලද්දේ කෙණෙහි මෙළේය. මෙසේ නව හවුරුද්දකින්
මිහිතල හැරියේය.
83 ඒ රජහු ඇවෑමෙන් උහු පිත් අක්බෝකුමර සිරිසඟබෝ
නමින් ප්‍රසිඬවූයේ රජවිය. උහු මල් මාණ කුමර යුව රජ
84 තනතුරෙහි අභිෂෙක කොට උහුට සේනා වාහන සහිත
දකුණු රට දින. ඒ රජතෙමේ පෙර රජුන් පැවති පරිදි නො
85 නසා දැහැමින් රට රැක්කේය. සඟහුද බූහුමන් කෙළේය.
86 ඉක්බිති මලයරට සැඟවී සිටි දෙටුතිස් කුමර ඒ සියලු
පවත් අසා රිටිගලට අවුත් මහජනයා සඟ්‍රහ කෙළේය,
87 ඉතා මනා කල්පනා ඇති ඒ කුමරතෙමේ පූර්ව දක්‍ෂිණ
දෙශයන් අත් පත් කොටගෙණ මහා බල ඇතිව ක්‍රම
88 යෙන් නුවරට එන්ට පටන්ගත. බටහිර දිග වසඟ
කරන්ට දළසිව් මැතිහු යවා තෙමේ සිරිපිටි ගම විසීය. රජ
89 තෙමේ එපවත් සියල්ල අසා යුව රජු එහි යැවීය. හේ
තෙමේ බටහිරි දිගට ගොස් සෙන් සහිත උහු පැලවිය.
90 කැදල්ලෙහි පිළවුන් සෙයින් දරුවහු නැසිය හැක්කැයි
මයෙත් වැවටපැමිනි කුමරහුගේ ඇමතියා රජතෙමේ අල්වා
91 ගත. දෙටුතිස් කුමරුත් මූහුසේ ගන්නෙමි සිතා අති
වික්‍රම ඇත්තේ නිසැකව මදවූ බල සෙනගින් යුකතව
92 ආය. දෙටුතිස් කුමරද එපවත් අසා ක්‍ෂුද පිණ්ස සැරහුනු
සේනා වාහන ඇත්තේ බූත් වෙරලැති සමුදුරසේ රජ
93 සෙන් වැසීය. රජසෙන් බිදින. ඒ රජතෙමේ ඇතු නැගී
හුදකලාව අප්‍රසිඬ වේසයෙන් ක්‍ෂණයකින් පලාගොස් රජ
94 යෙන් සවනමස්හි එකෙණෙහි නැව් නැගී වසතුහා රට
හා නැයන් හැර දඹදිව් ගියේය.
95 අනතුරුව දෙටුතිස් කුමර තෙමේ නුවරට අවුත් රජව
පෙරසෙසින් සියලු කිස පැවැත්විය. සස්න රැක්කේය.——
96 ඒ රජතෙමේ අභය ගිරි විහාරයට මහාදූරගිරිය දින. මහා
විහාරයටද මාමෙත්බෝව දින. ඒ රජ තෙමේම ජේත
97 වනයට ගොඩිගමුව දින. මසිලගන දිඹුලගන යන ගම්
දෙක පදන්ගෙහි නායකවූ මහානාග තෙරුන්ට දින.
98 කසුබ් ගිරියට ගොදුරුගම් කොට අඹලපනම් ගම දින. එම
රජතෙමේ වේළුවනයට කැකුළු විට දින. ගඬගා මාතෘකා
99 විහාරයට කෙහෙතා ගම දින. අතුරුගං වෙහෙරට

චූලමාතික ගම දින. මයෙත් වැව කසුබ් වෙහෙරට
100 සඟන්නරුව දින. කළාවෑ වෙහෙරට උදගම දින. මේ
විහාරයන්හා අනිකුත් විහාරයන් අයගමින් පිරවී. දිරූ
101 (විහාරාදිය) තුන්ලක්‍ෂයකින් නවකම් කෙළේය. ලක්දිව්
වැසි භික්‍ෂූන්ට තුන්සිව්රූ දින.
102 දඹදිව් ගිය රජහුගේ සහෝදරයෝ ඒ ඒ තැන සැඟවී
103 උන්හ. ඔව්හු දෙශය නසන්ට පටන්ගත්හ. දෙටුතිස්
104 රජ ඒ අසා කළාවැවට පැමින උන්හා යුද කෙරෙමින්
සේනා සහිතව එහිම විසීය. පරතෙර ගිය රජතෙමේ දෙමළ
105 සෙන් ගෙණ කළාවැවට අවුත් යුද කරණට පටන්ගත.
දෙටුතිස් රජද සටනට සැරහුනු බලසෙන් ඇතිව ආයුධ
106 ගෙණ දළසිව් ඇමති දඹදිව් යවා ලනලද සන්නාහඇති
107 ඇතෙකු නැගී යුද කෙරෙමින් තමා සෙන් පසුබස්නා
108 දැක තමාහා ඇතුනැගුණවූ මහඇමතිහට මේ වදන් කීය.
“ මා හසුන් මෙහෙසියට කියා පසුව තෝද කැමති සේ
109 කරන්නෙහි “ මහාදේවිනි පැවිදිව ආගම හදුරා අබිදම්
කියා රජහට පින් දෙව ” යි යනමේ අසුන් දී යම්තාක් යුධ
110 යට ආ ආ දෙමළුන් මරා ආයුක්‍ෂයට ගියේය. එකල්හි යුදට
ආ වේළුප්පනම් දෙමළා දැක අත බූලත් පසියෙහි රුකා තුබූ
111 සිරිය ගෙණ තමාගේ ඉස කපා ඇතුපිට තබා සිරිය කොපු
වෙහි බැහීය. මහාසේනාතොම උද්ඝොෂණය කෙළේය.
112 එකල ඒ මහා ඇමතිතෙමේද ගොස් සවකීය පරාජය
113 කියා රජහු ඉස් සිඳුම්හි කී හස්න බිසවට දන්වා ඒ බිසව්
සස්න පැවිදිව අටුවා සහිත විජම්පෙළ නිමවූකල ධර්‍මා
114 සනයෙන් බැස මිහිපිටුහි හිඳගෙණ “ එව රජහු මළසැටි
දක්ව ” යි මෙහෙයූ ඇමතිතෙමේ ඒ බිසෝ මෙහෙණී ඉදි
115 රියෙහි හිඳගෙණ තමා හිස සිඳ සිරිය කොපුවෙහි ලා
116 “ මෙසේ දේවතෙමේ මෙළේය ” යි කීය. බිසෝ මෙහෙණී
117 ඒ දැක දැඩි සොවින් ලය පලාගෙණ මළා. මෙසේ පස්
මසකින් ඒ දෙටුතිස් රජ දෙව්ලෝ ගියේය.
118 මෙසේ දිනූ යුධ ඇති (ඒ සිරිසඟබෝ) රජතෙමේ සතුරන්
මැඩ රජය පියවි කොට අනුරාපුරෙහි වෙසෙමින් පියරජ්ජු
119 නමින් තමා විසින් කරවන ලද මහල්ලකරාජනම් පදන්
120 ගෙහි නායක තෙරුන්ට හංකාරය සමුගම යන ගම් දෙක
හා කේහෙල්ල රාජභාගයද සියලු පිරිවරද යන මේ සිය
121 ල්ල දින. එසේම ජේතවනයට මාම්ණියා ගම දින. මයෙත්
කසුප් අවස සල් ගම්න් පිදී, සැගිරියට ඇඹුල්පදර දින.
122 පොළොන්නරුවෙහි මහපන්දිව (මහාපානාදිදිපකං) කෙ

ළේය. උහුගේ ඇමැත්තෝ මාණනම් යුවරජු අන්තඃපුරයෙ
123 හි අපරාධ කළහෙයින් සම මෛත්‍රී ඇති ද්‍රෝහියෝත් මැරූහ.
ඉක්බිති ඒ රජතෙමේ තමන් කිස්දෙවුන්මල්කසුප්කුමරු
124 පරම්පර රක්නේ යුවරජ තනතුරෙහි අභිසෙක කරවිය.
125 දළසිව්තෙමේ මාණනම් යුවරජු මරණ අසා දෙමළ සෙන්
ගෙණ එහා සියඹලංගමුවට ආය. රජතෙමේ උහු එන්නා
126 දැන සෙන් සමග ගොස් යුද කෙරෙමින් දොළොස්වන
හවුරුදුයෙහි දඹදිව් පැලූ. හේතෙමේ සියල්ල හැර
127 යමින් තමා හඳුන්වනු පිණිස එකා වැල ගෙණ යුදකලාව
නික්මින. මේතෙමේ එකාවැල නැතිවම විඩිවූ පරිද්දෙන්
128 රජව දාඨොපතිස්සය යි මිහිතල පතළවිය——සිරිසඟබෝ
රජතෙමේ ලද අවකාස ඇතිව යුදකොට රජය ගත. මෙසේ
129 ඔව්හු දෙදෙනා අතරතුර උහුන් පැලවූහ. දෙරජුන්
මෙබඳු යුදයෙන් පෙළුනු සියලු ලෝවැසි තෙමේ උපද්‍රැත
130 විය ධන ධාන්‍යයෙන්ද පිරිහින. ඒ දාඨොපතිස්සරජ තෙමේ
පූර්ව රජුන් සතු සියල්ල නැසීය. තුන්නිකාහිද දාගෙවලද
131 සාර ගත රන් පිළිම බිඳ රන් ගත්තේය. රන්මාලාදී සියලු
132 පූජාභාඩ බැහැර කෙළේය. එසේම ථූපාරාමයෙහි රන්
කොත ගත්තේය (මහ) සෑයෙහි මාහැඟි රතනයෙන්
ආකීර්ණවූ ඡත්‍රයද බින්දේය. මහා පාළිනම් බත්හල
133 ඔරු දෙමළුන්ට දින ඒ දෙමළු ධාතුගෙය හා රජගෙවල්
134 ගිනිලූහ. පසුව විපිළිසරවූ හේතෙමේ තමා පව් දෙස්
135 නට භොග සහිත පලාවතු වෙහෙර කරවිය——රියන්
136 දළෑයි ජනයා කෙරෙහි ප්‍රසිඩ උහු බෑනතෙමේද මහ
ඇපාවි. පොහොසත්වූයේ උහුට උපස්ථාන කෙළේය.
137 යුඩ බලයෙන් අක්බෝරජ රජයට පැමිනිකල උහු මල්
කසුප් යුවරජ තමා බලසෙන් රක්නට ථූපාරාමයෙහි දා
138 ගැබ ලාහෙලා බිඳ දෙවෙනි පෑතිස් රජුහා සුලු අක්බෝ
රජු ඇතුළුවූ පූර්ව රජුන් විසින් පුදනලද සාර වසතු පැණ
139 නැති මේතෙමේ දුනීතිතික පාපයන් පෙරටු කොටගෙණ
පැහැරගත දකුණු විහාරයෙහි සෑය බිඳ ධන සාරය
140 පැහැර ගත මෙසේ අනික් දාගැබ්ද බිඳවී——දුර්නීතික
යන් පෙරටු කොට ගෙණ මෙසේ කරණ උහු වලකන්ට
141 රජතෙමේ පොහොසත් නොවී. අදෝමය පව්ටුහු දුර්ථර
යෝ වෙති උහු වලකන්ට නොපොහොසත් ඒ රජතෙමේ
142 ථූපාරාමයෙහි එම යුවරජු විසින් බුන් සෑය දහසකින්
කරවා පෙළහර කෙළේයි.
143 එකල දාඨොපතිස් රජු විසින් අක්බෝ හෝ සිරිසඟබෝ

රජ පරාජයට පමුනුවනලද්දේ බලවාහන සරසන්ට
144 රුහුණු ගියේය. එහි විසූයේ ව්‍යාධියකින් පහරණලදුව සොළොස්වන වස්හි මෙළේය.

145 එකල උහු තිස්දෙවුන් මල් කසුබ් යුවරජ තෙමේ දාඨොපතිස්ස රජු දඹදිව් පලවා ලක්දිව එක්සත් කෙළේය. ඔටුනු
146 නො පැළැන්දේය. මේතෙමේ සත්පුරුෂසමාගමයෙන් විපිළිසරව "කළ පාප කර්‍මයාගේ නාසනය කරණෙමැ" යි
147 සිතා මල්වතු පොල්වතුහා වැව්ද කරවී. මහසෑ තුණ මහා පූජායෙන් සත්කාර කෙළේය. ථූපාරාමයද පූදා ඊට එක්
148 ගමකුදු දින. සියලු ආරණ්‍යක භික්‍ෂූන් ලවා දහම් දෙස්විය. මිරිසවැටියෙහි ඉතා තර පහයක් කොට නාහලවැසි මහ
149 තෙරහු එහි වැස්විය. එහි වසන උන්වහන්සේට සිවුපස
150 යෙන් උවටන් කෙරෙමින් අටුවා සහිත විජම්පෙළ කියවී.
151 නාහල් අවස කරවා උන්වහන්සේටම දින. මානිවුලා ගමද පසය පිණිස උන්වහන්සේටම දිනි.

152 ඉක්බිති ඒ දාඨොපතිස්ස රජතෙමේ දඹදිවින් මහබල සෙන් ගෙණ මෙහි ආයේ යුද කෙරෙමින් මොනවට සර
153 සනලද බල වාහන ඇති ඒ කසුප් රජු විසින් පහරණලද්දේ මෙළේය. මොහුගේ රජබැව්වූ කලී දෙළොස් අවුරුද්දක් විය.——ඒ දාඨොපතිස්ස රජහට සමාන නම් ඇති බෑ නෙක් මහායුඩ යෙහිදී උහු කෙරෙන් බියව දඹදිව් පැලහ.
154 ඒකාන්තයෙන් සියලු සම්පත් මෙසේම අනිත්‍යහ, ඉතා දුලීහද වෙති, ක්‍ෂණයෙක්හිම හොබනාහ, එහෙයින් (තම හට) වැඩකැමැත්තේ මෙහි ඇල්ම බැහැරලා ධර්‍මාභිමුඛ වන්නේය.

මෙතෙකින් හුදිජනයා ප්‍රසාදසංවේගපිණිස කළ මහ වස ජරාජකනම් සුසාළිස්වන අදියර නිමි.

---

# 45 වෙනි පරිච්ඡේදය.

1 ඉක්බිති දිනනලද සග්‍රාමඇති පිරූ ආසාඇති කසුප් රජතෙමේ මහා පාළිනම් බත්හල සඟනට භොජනාය සමෘඩ
2 කෙළේය. එම රජතෙමේ නාහල් වැසි මහාධම්කථික තෙර නුවන් මහපුදයෙන් පූදා උන්වහන්සේ ලවා බණ දෙස්වී.

3 බැයා අවස වසන කටන්ධකාර වැසි තෙරුන් සඳහා සඟ්‍රහ
සහිත සියලු පෙළ ලියවිය. ජීර්ණප්‍රතිසංස්කාරණ කෙළේය.
4 සෑයෙහි නවහම්ද කරවිය. ඒ ඒ තැන නොයෙක් සඟඅය
5 පැවැත්වී. නන් මිණියෙන් වොරජනා සිළුමිණි තුණ කරවී,
පඬුපලාසයන් සියයක් වස්ත්‍රදානයෙන් පිනවී.

6 උහු බොහෝ දරුවෝ වූහ. උන්ගේ දෙට්ටුතෙමේ මා
ණික නම. ඒ සියල්ලෝ යොවුන් වයසට නො පැමිනියහ.
7 බාලයහ. එහෙයින්ම මුහු කළ නුවන නැත්තාහ. පසුව ඒ
රජතෙමේ අසාධ්‍ය කිසි රොගයකින් වලඳනාලද්දේ "මා
8 පුත්තු සියල්ලෝ ළදරුවෝය මොව්හු රාජ්‍යක්‍ෂම නොවෙ
තැ" යි රුහුණු රට වසන මහා නුවනැති බෑනනුවන් කැඳවා
9 තමා පුතුන්හා සියලු රජය පාවාදින. ගඳ මල් ආදී පූද
යෙන් චෛත්‍යයන් පුදා සිවුපසය දී භික්‍ෂුසඞ්ඝයා ක්‍ෂමා කර
10 විය. ඒ කසුප් රජතෙමේ මෙසේ සුචරිතයෙහිද මිත්‍රාමාත්‍ය
11 ජනයා කෙරෙහිද දැහැමින් හැසිර නව හවුරුද්දකින් කම්වූ
පරිද්දෙන් පරලොව ගියේය.

12 ඒ මාණතෙමේ මසිල්රජහට කටයුතුවූ කිස ගෞරව සහිත
කොට නිමවා ජනයා සඟ්‍රහකොටගෙණ දෙමළුන් බැහැර
13 ළීය. දෙමළු එක්ව "මොහු බැහැර ලමුය" යි උහු බැහැරම
සිටි කල තුමූ නුවර ගත්හ. දඹදිව් ගිය හත්‍ථදාඨ කුමරහට
"රජයගැන්ම සඳහා ඔබගේ ඒමට කලැ" යි හසුන් යවූහ.
14 මාණතෙමේද පියාපිණිස රුහුණට වහා හසුන් යැවිය.
15 පියතෙමේ ඒ අසා නොබෝ කලකින් රුහුණින් ආය. ඔහු
දෙදෙනා මන්ත්‍රණය කොට දෙමළුන් උනුනුන්හා බිඳුවූහ.
16 ඉක්බිති ඔව්හු සියල්ලෝම සම පැවතුම් වූහ—එකල මා
ණකුමරතෙමේ පියානන් රාජ්ජයෙහි අභිෂෙක කෙළේය.
17 අභිෂෙක ලත් ඒ රජතෙමේ (තුන්) නිකායට තුන් දහසක්
දිනි. සඞ්ඝයාද රටද සඟ්‍රහ කොට රජකුලෙහි තුබූ සියලු
බඩු සතුරන්ගෙන් රකිනු සඳහා රුහුණු යවිය.

18 හත්‍ථදාඨ තෙමේද දෙමළුන් හස්න අසා දෙමළ බලසෙන්
ගෙණ ක්‍ෂණයෙන් මෙදිව් ආය—එකල ඒ දෙමළු
19 සියල්ලෝ පරිභූතව මෙහි සිටියෝ ගොස් මගදීම එන උහු
පිරිවැරූහ. මාණතෙමේද සියලු එපවත් අසා "යුදයට මේ
20 නොකලැ" යි සාරධන සහිත පියහු රුහුණු යවා තෙමේ
නැගෙණ හිරි රටට ගොස් ජනයා සඟ්‍රහ කෙරෙමින් විසීය.
21 ඒ දාඨොපතිස්සතෙමේ දෙමළ පක්‍ෂය ලදින් රජනුවර
22 ගෙණ දාඨොපතිස්ස රජැයි තමා නම ඇස්වී. ලෝවැසි
23 තෙමේ මසිල්හු සෙයින් එම නමින් උහු ව්‍යවහාර කෙළේය.

(ඒතෙමේ) පියහු බුහුනනියන් පිත් අක්බෝනම් කුමරු
24 ගෙන්වා යුවරජ තනතුරෙහි තබා දකුණු රටත් දින. තමා
25 ඇසුරු කළවුන්ට සුදුසු පරිද්දෙන් තනතුරුදු දින්. සස්නට
හා ලොවට කටයුතු සියල්ලත් කෙළේය. මහාපාළියෙහි
26 පිළිසහිත දී බත්හා කිරිද කිරිබත්ද දිනි. බණ ඇසී; පෙහෙ
වස්විසී. සියලු පූද කරවමින් දහම් දෙස්වමින් මේ ඈ පි
නින්තමා යහපත්ම කෙළේය.

27 කසුබ් වෙහෙරට සේනා ගම දී පදන්ගේ හිමියන්ට මහ
ගල (වැවද) දින. මොනරපිරිවෙණට කසගම දින. ථූපා
28 රාමයට පුණ්ණොළිය දී සෑයට සත්කාර කෙළේය. හේතෙම
අභයගිරිවිහාරයෙහි කපූරු පිරිවෙණ කරවී. තිපුතුල්
29 නම් විහාරය කරවා ඒ වෙහෙරට දෙවී. උහු ඒ වෙහෙර
කරණකල ථෙරවාදික භික්‍ෂූහු තමන් සීමාව ඇතුළතැයි
30 වැලකූහ. ඔවුන් ප්‍රතිබාහනය කොට බලාත් කාරයෙන්
එහිම කරවී. ඉක්බිති ඒ ථෙරිය භික්‍ෂූහු රජු කෙරෙහි
31 නොසතුටු සිත් ඇත්තෝ උහු සැදැහැ නැතිකොට සිතා
32 ගෙණ පතතානිකකුජ්ජන කම් කළහ. ඒ බුදුන් විසින් "යම්
උපාසකයෙක් සැදැහැ නැත්තේ නම් භික්‍ෂූන්ට අලාභපි
33 ණිස උත්සාහ කෙරේනම්හෝ එසේම ඔවුන්ට ආක්‍රොශ
කෙරේනම් හෝ උහුට පතත නිකකුජ්ජනය කටයුතුයයි වදා
34 රණලදැ"යි සිතා පසුව ඒ භික්‍ෂූහු උහුට ඒ කර්ම්ය කළහ.
ලෝවැසිතෙමේ අනික් පරිද්දෙකින් සිතී "භික්‍ෂූතෙමේ
35 භික්‍ෂා පිණිස උඩුකුරුකළ පාත්‍රය ගෙණ හැසිරෙමින් උහු
ගේ ගෙදොරදී මුනින් නමන්නේය" යි කතිකා කළහ. එ
සමයෙහි ඒ රජතෙමේ මහාවත්‍යධියකින් පහරණලද්දේ
නව වන හවුරුදුයෙහි ජීවිතක්‍ෂයට පැමිනියේය.

36 ඉක්බිති දප්පුළ රජතෙමේ සිය රුහුණු ගියේ පින් රැස්
37 කෙරෙමින් එහිම වාසය කෙළේයි —— මෙතැන් පටන්
උහුගේ වංශය නිරවුල් කොට කියමු. ඒ මෙහිම කියන
38 කල නිරවුල් වේ. ඔකාවස් කුලෙහි උපන් මහාතිස්‍ස යන
නමින් ප්‍රසිඩවූ මහපින් ඇති සමාකීර්ණ ගුණඇතියෙක් විය.
39 රුහුණුරට හිමිහුගේ දූවූ පසන්නා පින් ගුණඇති සඞ්ඝසීවා
යයි ප්‍රසිඩ කුමරියක් උහු භාය්‍යා වූවා. ඇය පුත්තු තුන්
40 දෙනෙක් වූහ. ප්‍රථමයා අක්බෝ නම; දෙවැන්නා දප්පුළ
නම; තෙවැන්නා මිණිඅක් නම. ඇයගේ එක් දුවක්ද වූවා;
41 ඕතොමෝ රජුට පැමිනියා —— දෙවූ කුමරතෙමේ රුහුණු
රට තමා වසඟ කෙළේය. මහාධනඇති ඒතෙමේ මාගම්හි
42 මහාපාළිනම් බත්හල කරවිය. එහිම දළඅක්බෝනම් පිරි

වෙණුද කරවී. කණගම්හි අන්ධයන්ටත් ගිලනුන්ටත් ශාලා
43 කරවිය. සද්‍රාඥ ඒ තෙමේ පිළිමනම් වෙහෙර මහත් පිළිම
ගෙයක් කොට එහි සෙල්මුවා මහත්නම් බුදු රුවක්ද ඉදුහ
44 යෙන් මැව්වාක් බඳුකොට පිහිට විය. තමානම්* ඇති සාල
වාණවිහාරයද පිරිවෙන් වෙහෙරද එසේම කතරගමද කර
45 වී. මේතෙමේ දම්හල් වෙහෙර නවකම් කරවා එහි පරණ
46 වැසිකිළිය නුවනැත්තේ තෙමේම ශුද්ධ කෙළේය. පහන් හේ
47 තෙමේ භික්සඟනු ඉඳුල් බොජුන් වලඳු මඩනම් ගම සඟනට
48 දින. උහු මේ හැර තවත් පින්කම් කොට දෙව්ලෝ ගියකල
උහු මල් සාම්දපපුළනම් කුමරතෙමේ එහි (ඉසුරු) විය.

49 ඒ තෙමේ එහි සතුරන් මැඩ ඉසුරු පැවැත් විය. මහ
දන් පැවැත් විය; රුහුණද නිඃසය කෙළේය. උහුට තුටු
ජන තෙමේ "මේතෙමේ අපගේ මහා ස්වාමීය" යි කීය.
50 එ තැන් පටන් ලෝවැසිතෙමේ උහු මා හිමියයි ව්‍යවහාර
කෙළේය. සිලාදඨ† නරෙන්ද්‍රතෙමේ එ පවත් අසා උහුට
51 සතුටුවූයේ බොහෝ ධනහා තමා දියනියත් දින. රාජ
යෝග්‍යයයි මත් කරන්ට යුවරජ තනතුරුද දින. උහුගේ
52 දරුවූ මාණවම්මාදිහු මහත් යසස් ඇත්තෝ වූහ. පාණදිව
සින් වැසි මහ තෙරුන් වෙත බණ අසා උන්වහන්සේ කෙ
53 රෙහි පැහැද උන්වහන්සේ බුහුමන් කරණුපිණිස රුහුණ
වෙහෙරක් කොට උන්වහන්සේට පිදිය. තෙරනුවෝද ඒ
54 වෙහෙර චාතුද්දිශික සඞ්ඝයාගේ පරිභොගපිණිස දුන්හ.
අඹමල් වෙහෙර ආදී බොහෝ වෙහෙර කරවී. කිහිරැළි
55 වෙහෙර කොට දෙවියන් පිදී. මහාපැණ ඇති ඒ යුවරජ
අනුරාරම් පහය ඉතා දිරාගියා එලෙන මුතුලැල් ඇති කොට
56 (නවකම් කරවී). එසේම සිරිවඩ පහය අන්‍යවූ තක් ඇඹුල
යන මේ ශුද්ධ කරවා සියලු පසය දිමෙන් පිනවා එහි දෙතිස්
57 භික්ෂු කෙනෙකුන් වැස්වී. කෙවුල් ගැඹුර නම් ගම නාවෙ
හෙරට දින. එසේම රජවෙහෙරට ගොණගම දින. තිස්
58 වෙහෙරට කන්තික පව්ව දින. එසේම ඒ යුවරජ සිතුල්
පව්වට ගොන්න විටිගම දින. ඒ මේ යුවරජ අරියාකර විහා
59 රයට මල්වතුනම් ගම දින. එහිම ඉතා සිත්කළු පිළිම
60 ගෙයක් කෙළේයි. එහි සිටිපිළිමයෙහි මාහැඟි ඌණී

---

* තමානම් අක්බෝනම්.

† අලම්බුගලන් රජු මැරූ අසිග්‍රාහක
සලමෙවන්
ඒ රජතෙමේ සිලාමේඝ සිලාදාඨ නොවේ.

61 රෝමය කෙළේයි. හේ තෙමේ රන්පට කරවී. සියලු පූජා
විධානයද කෙළේයි, චෛත්‍යය බොහෝසේ දිරූ කල
62 හේ තෙමේ සුණුයමින් රැඳවී. තවද අන්‍යවූ පසළොස්
63 රියන් මෙතේ බුදුරුව කරවී——ඒ යුවරජතෙමේ මේ
ආදී අපමණ පින් තෙමේත් මනා කොට කෙළේය. පිරි
64 වර ලවාත් කරවී. උහු පිරිවැරූ බොහෝ පින් කරූ මිනිස්සු
වූහ. උන්විසින් පසඇතිව කරවනලද නොයෙක් විහා
රයෝද වූහ.

65 කිසි කලෙක ඒ යුවරජ (සියරට) ඇවිදිනේ ගම්නැති අර
66 ණෙක්හි සේනා සංවිධාන කොට රූ වාසය කෙළේය. හේ
තෙමේ මොනවට නෑම් විලවුන් ගැණීම් කොට සැප ආහාර
67 ගෙණ සිත්කළු ගෙයක සුවයහනෙක හොත්තේ නිදන්ට
වන. එකල නිදි නො ලබන්නේ කරුණුකිමැයි දවහල් තමා
68 සියලු පැවතුම් මෙනෙහි කෙරෙමින් ඇතුළත කිසිකරුණක්
නොදක බැහැර කිසි කරුණක් උවමැනවැයි මෙසේ සිතා
69 ඒ සොයන්ට මිනිසුන් යෙදිය. මෙසේද “ඒ කාන්තයෙන්
මාගේ ආර්‍ය්‍යයෝ රාත්‍රියෙහි තෙමෙමින් රුක්මුලෙක ඉන්
70 නාහ ; උන්වහන්සේලා ගෙණෙව ” යි කීය. ඒ මෙහෙයන
ලද මිනිස්සු පහන්ගත්අත්ඇතිව ගොස් සොයමින් මා
71 ගමින් ආ රුක්මුලෙක උන් භික්ෂූන් (දැක) එකල ගොස් ඒ
අසුන් රජහට දැන්වූහ. ඒ රජතෙමේ (වෙතට) දිව්ය. ඒ
72 භික්ෂූන් දැකම සතුටුව ස්වකීයවාසභවනයට වඩාගෙණ
වුත් භික්ෂූන්ට නිතිදන්පිණිස තබනලද රැඳූ සිවුරු
73 උන්වහන්සෙලාට දී තෙත් සිවුරු ඇරගෙණ වියලා පා
74 දෙවුන් ආදිය කොට මොනවට අතුළ ඇඳ ඒ සියලු
75 භික්ෂූන් වඩා හිඳුවා බෙහෙත් පිළියෙළ කොට තෙමේම
76 පිළිගන්වා පෙරවරුදු කටයුතු භොජනාදිය කරවා කැප
කරුවන් දී ඉක්බිති රුචිපරිද්දෙන් යවීය. කුශලක්‍රියා
යෙහිමඇලුනාවූ ඒ රජහු දවස් මෙසේ පසුවිය·

77 මෙසේ පුණ්‍යපරායණව ඒ නරශ්‍රෙෂ්ඨයා සියලු රට දනව්
පින්කම්හි යොදවා වසන කල මාණකුමර නැගෙණහිරිරට
වෙසෙමින් බලසෙන් එක්කොටගෙණ පියහු සේනාවහා
78 වැතුවත් ගෙන්වාගෙණ යුදකරණු පිණිස තිපුවුලලනම්
ගමට ගියේය. දාඨොපතිස්සරජ එ පවත් අසා මහ බල සෙන්
79 ඇතිව තඹල ගමට ගියේය. එහි උභුහුන් එක්ව මහ යුද
80 කළහ. දාඨොපතිස් රජහුගේ යෝධයෝ අවයව සහිත
මාණ කුමරු මැරූහ. එ පවත් අසා ඒ දප්පුළතෙමේද සො
81 ක නැමති හුලින් පහරණලද්දේ මෙළේයි——මේ තෙමේ

අනුරා පුර සත් දවසක් වෙසෙමින් රජකම් කෙළේය.
රුහුණ තුන් අවුරුද්දක් රජකම් කෙළේය. එහෙයින්
උහුගේ කථාතොම මෙහිද රුහුණද වී.

82 මෙසේ ආකල සතුරන් මරා දූකසේ අයින් ලද්දාවූද සම්
පත්හු ක්ෂණයෙහි විදුලිසේ වූහ. නුවනැති කවරෙක්
එහි ඇල්ම කරන්නේද.

මෙතෙකින් හුදීජනයා ප්‍රසාදසංවේගපිණිස කළ මහ
වස චතුරාජකනම් පන්සාළිස්වන අදියර නිමී.

---

# 46 වෙනි පරිච්ඡේදය.

1 හත්ථදාඨනම් රජහුගේ ඇවෑමෙහි රජහු බාල සොහොයු
2 රුවූ අග්බෙ කුමරතෙම සිරිසඟබෝනම් ඇතිවැ (රජ) විය.
මේතෙම සම්‍යග් දෘෂ්ටියෙන් යුක්තවූ ධාර්මික රජෙක්විය.
එහෙයින් හෙතෙම පමණ නොකළ හැක්කාවූ පින්
3 කම් පැවැත්වීය. තුන්නිකායවාසි (භික්ෂූන්ගේ භෝජන
සාලාවන් (ප්‍රත්‍යයදීමෙන්) බැලී, මහාපාළිනම් දන් හලද
4 වැඩීය. සතුන් නොනසන පිණිස ආඥුවක්ද කර
වී. අලස රහිතවැ සුදුසු පරිද්දෙන් තනතුරැද දෙවී.
5 සිප් ගොත් ආදියෙන් යෝග්‍ය ජනයන්ට සඟුහයෙන්
සඟුහද කෙළේය. මහා පැණැති ඒතෙමේ යම්තිසි තැන
කදී භික්ෂූන්දැක උන්වහන්සේලාට සත්කාරකොට ශාස
6 නයට අනනගීතවූ පිරිත් කියවී. ඒ (රජ) තෙම නාගසාල
(විහාර) වාසිවූ දාඨාසීවනම්වූ මහපැණැති සිල්වත් බහු
7 ශ්‍රුතවූ තෙරුන් කරා එළඹැ උන්වහන්සේට සත්කාර කොට
උන්වහන්සේ කෙරෙන් සම්මාසම්බුදුන් දහම් අසා සියලු
8 සෙත් කරන්නේයයි ධර්මයෙහි අතිශයින් පැහැද පාපීවූ
දුෂ්ට සිත්ඇත්තාවූ පූරාණ සියනෑයන් විසින් ථෙරිය
වාද යන නම්ඇත්තාවූ (මහා විහාරවාසිවූ) භික්ෂූන්ට
9 කරණලද අපකාරයන් අසා බොහෝවූ දිරාගිය පිරිවෙ
න්ද ප්‍රකෘතිවත් කළේය. ඒ ඒ තන්හි බොහෝ අය උප
දනා ගම්ද දෙවී.

10 එකල ශූන්‍යවූ ප්‍රත්‍යයන්ද අතිශයින් දළුලෑසේ ඇතිකෙ
ළේය. සඞ්ඝයාගේ දෘසයන්ද නියම තන්හි තැබීය. මේ
11 (දාඨාසීවනම්) තෙරුන්වහන්සේට තමන් නම් ඇත්තාවූ

ප්‍රධානගෙයක් කරවී. මහපැණැති ඒ තෙරතෙමේද එය පිළි
12 ගෙණ සඟහට දින. ඒ ගෙට හරත්තාල නම්වූද තිහිම්බිල
නම්වූද කතක නම්වූද තුලාධාර නම්වූද අන්ධනාරනම්වූද
13 අන්ධකාරනම්වූද අනුරෙළි නම්වූද බාලව නම්වූද චාරනා
යක නම්වූද මහානික්ඛඩ්ඪික නම්වූද හොග උපදනා ගම්
14 දුන්නේය; එසේම පෙළහාලනම් අනික් ගමක්ද දින. ඒ රජ
තෙම මෙතියනලද ගම්ද අනිකුත් හොගඋපදනා ගම්ද දී
15 තමන්ගේ නෑවූ ආරාමිකයන්ද දුන්නේය. එසේම නිකාය
දෙක්හි ප්‍රත්‍යයමදවූ විහාරයන් දැකද අසාද බෝහෝවූ
16 හොගඋපදනා ගම්දින. බෝහෝ කීමෙන් කවරද්‍රයෝජනද
තුන්නිකායටම බොහෝ ප්‍රත්‍යය උපදනා ගම් දහසක් නිර
17 වුල් කොට දුන්නේය. තුනුරුවන්ගේ උතුම් ගුණ මෙනෙහි
කරන්නාවූ ඒ (රජ) තෙම එකාවැල ගෙණ අක්‍ෂමාලා
හෙවත් නවගුණ (වැල්) කළේ. මෙසේ සියලූ ප්‍රයෝග
18 යෙන් ඒ (රජ) තෙම ධර්මයෙහි ඇලුනේවිය. උහුට
අනුව හික්මෙන්නාවූ සියලූ මිනිස්සු දහම් පිළිවෙත්
කරන්නෝ වූහ.

19 එකල්හි ඒ රජහුගේ කම්කරුවූ පොත්ථකුට්ඨනම් දෙමළ
තෙම මාටම්බියනම්වූ අදහුතවූ ප්‍රධාන ගෙයක් කරවී, බූක
20 කල්ලනම් ගම අඹවැවද තන්තවායිකචාටිකනම් ගමද
නිඞ්ලවිඩ්ඩිනම් ගමද ඒ පොත්ථකුට්ඨනම් දෙමළතෙම දාස
21 යන් සහිතකොට දින. කපුරු පිරිවෙන්හිද එසේම කුරුන්ද
පිලලනම් පිරිවෙන්හිද මහ රජගෙයිද ප්‍රාසාදයන් ඒ තෙ
22 මේම කරවී. මහත්වූ ධනඇති හෙතෙම අන්‍යස්ථානයන්හි
විහාරවිෂයෙහි ගම් තුණක් දින........පොත්ථසාතනම්වූ
23 ප්‍රඥාඇත්තාවූ සෙනා පතිතෙම ජේතවන විහාරයෙහි රජ
හුගේ නමැත්තාවූ පිරිවෙණ නිමවී. මහාකන්දනම් දෙමළ
තෙමේද තමන් නමඇත්තාවූ පිරිවෙණක් (කරවූයේය.)
24 එසේම එක් පුරුෂයෙක්තෙම චූලපන්ථනම් පිරිවෙණක්
කරවී. රජහුගේ සඞ්ඝතිස්සනම් ඒ උපරජ තෙමේද සෙ
නාල උපරාජනම් පිරිවෙණක් කරවිය.

25 අන්‍යයෝ මේ ආදී ඉතාබොහෝවූ විහාර කරවූහ. ඒ
රජහට අනුව පවත්නාවූ සත්වයෝ මෙසේ ධාර්මික වූහ. යම්
26 ප්‍රධානයෙක් තෙම යම් පාපයක්හෝ පිනක්හෝ කෙරේද
ලෝකයා ඒ ඒ දෙය කරන්නේමය එය පඬිතතෙමේ දන්
27 නේය. ඒ රජහුගේ ජෙට්ඨානම් මහපිනැති මෙහෙසී
තොමෝ ජෙට්ඨාරාමනම්වූ මෙහෙණිඅසපුවක් කරවීය. ඒ
28 ආරාමයට පත්තපාසාණනම් භූමියෙහිවූ ගම් දෙකක්ද ඒ

බඳ බෙල්නම් ගමද එසේම ආරාමිකයන් සියයක්ද දුන්
29 නිය. මහත්වූ ධන ඇත්තාවූ මලය රජතෙමේද මඬල
ගිරිනම් විහාරයෙහි චෛත්‍යයට අසිතිවූ මහරුවූ දාගෙ
30 යක් කරවී. හෙ තෙමේම ලෝවාමහපායෙහි මැද කුළු
ගෙය සෙවෙනි කරවී. මහා යසස් ඇත්තාවූ බොධිතිස්ස
31 තෙමේද බොධිතිස්සනම් විහාරයක් කරවිය. ලඞ්කාවීප
යෙහි මඬලාධිපතිවූ* සියල්ලෝම ඒ ඒ තන්හි ශක්තිවූ
32 පරිද්දෙන් බොහෝවූ විහාරයන්ද පිරිවෙන්ද කරවූහ ඒ
රජහුගේ කාලයතෙම පින්කමින් නිපන්සේවිය. අති
විස්තරයට භයින් සර්වප්‍රකාරයෙන් නො විචාරණ ලද්
33 දේය. සම්සේ හේතූන්ගේ ප්‍රධාන සලකුණ කියන
ලද්දේද (එ හෙයින්) පූර්වවූ කථාමාර්ගයද අවුල්සේ මට
වැටහේ.

34 යලි අන්‍යවූ කාලයෙක්හි පොළොන්නරුගොස් පින්රුස්
35 කෙරෙමින් එහිම වාසයකළේ, අසාධ්‍යවූරොගයකින් සපීඩිත
රණලද්දේ තමන්ගේ දිවිඅවසාන කල්බැව්දැන මහජනයා
36 කැඳවා ධර්මයෙන් අවවාදකොට තෙමේ මරුමුවට පත්විය.
උහු මළ කල්හි මහජනතෙමේ දැඩි සෝකඇතිව අඩා උහු
37 ගේ ආදාහනයෙහි කටයුතුසියල්ල නිරවශෙෂවසයෙන්
කොට උහුගේ ආදාහනයේ අලුද තමන්ට බෙහෙත්කොට,
38 ඒ සියලුරාජභාණ්ඩයද සියලු සේනාවාහනද ගරුකොටගෙණ
සුරැකිව තබා නුවරට පැමිනියේය—මෙසේ සොළොස්
39 වෙනි වර්ෂයෙහි (අග්‍රබෝධි නම්හෝ ශ්‍රී සඞ්ඝබොධි) රජ
තෙම දෙව්ලෝ පැමිනියේය.

පොත්කුටඨනම් දෙමළතෙමේද උහුගේ රාජ්‍යය විචාර
40 ණය කෙළේය. දාඨාසිවනම්වූ උපරජ අල්වාගෙණ සිරගෙහි
ලැව්ය. මනාකොට කරණලද රැකවරණ අණකෙළේය,
41 රජෙකුගෙන් වෙන්ව රාජ්‍යය භුක්තිවිඳින්ට නොහැකියයි
සිතා දනපිටියේ ප්‍රධානත්‍වය ඇත්තාවූ රාජවංශයෙහි උපන්
42 දත්තනම් පුරුෂයෙකු ගෙණවුත් උහු රාජ්‍යයෙහි අභිෂෙක
කොට උහුගේ නමතබා තමන් සියල්ල විචාරණය කෙ
43 ළේය. ඒ දනපිටියේ දත්තනම් රජතෙම තමන්ගේ නම්
ඇත්තාවූ විහාරයක් කරවා අනිකුදු පින් රුස්කෙළේය.

---

* මඬලාධිපතියෝ නම් ඒ ඒ දනව්නායක දිසාපතීහුයි.

44 ඒ (දත්තනම් රජ) තෙම සමදෙවසක්ම සිට මෙළේය. උහු
45 මළකල්හි පොත්කුට්ඨ (නම් දෙමළ) තෙම නැවත භූණින් නරුවෙහි උපන්නාවූ අනිකුදු කුමරෙකු ගෙන්වා උහුද රාජ්‍යයෙහි අභිෂේක කොට තෙමේ පෙර පරිද්දෙන්ම වාසය
46 කෙළේය. කාළදීඝාවිකනම්වූ ප්‍රධාන ගෙයක් කොට එසේම අනිකුත් පින් (කොට) හෙතෙමේද සමසනින් මරහු වසග විය.

47 මෙසේ බොහෝ උපද්‍රව ඇත්තාවූ ධනයන්ද ධාන්‍යයන්ද වාහනයන්ද දැන ප්‍රඥාසහිත පුද්ගලයෝ රාජ්‍යයන් කෙරෙහි ඇල්ම හැර මනොඥවූ පුණ්‍යයෙහි ඇලුනෝ වෙත්වා.

මෙතෙකින් භූදිජනයා ප්‍රසාද සංවෙගපිණිස කළමහවස තිරාජකනම්වූ සතළිස්සවෙනි අදියරනිමි.

---

# 47 වෙනි පරිච්ඡේදය.

1 ඒ (දත්තනම්) රජහු ඇවෑමෙන් මාණවම්මතෙම රජ වූයේය. හෙතෙම කිනම් ගොත් ඇත්තේද කවරෙකුගේ
2 පුත්‍රයෙක්හෝ වේද කෙසේ රජයට පත්විද්‍යත් ?—මහා සම්මත වංශයෙහි උපන්නාවූ ජතිගුණයන් උසුලන්නාවූ ථූ
3 පාරාමයහෙදකළාවූ කාශ්‍යපනම්වූ රජහුගේ පුත්‍රයි. ඒරජ හුගේ මෙහෙසීතොම මලයරජු දියනිවූ සඞ්ඝානම් වීය. ඒ
4 කුමරිය ලැබ උත්තරදෙසයෙහි සැඟවුනාවූ පැවතුම් ඇතිව වසන්නේ හත්දාඨනම් රජහුවිසින් එබව නියමකොට
5 දැනගත් කල්හි දඹදිවට පැමින නරසීහනම් රජුකරා ගොස් සේකිය නාමයකියා උහු ඇසිරුකරන්ට පටන්ගත්තේය.
6 සියලුම උපායෙන් (ඒ) රජු සතුටු කෙළේය. උහුගේ මිත්‍ර තාව දැන තමන්ගේ බිරිඳුත් ගෙණගොස් රැ දවල් ඒ (රජු)
7 සේවනය කරමින් එහිම වාසය කෙළේය. කාවච්චිරට ඒරජ තෙමේද උහුවිසින් සතුටුකරණ ලද්දේ ඒ රජය සියල් ලම පමුනුවන්නාක්මෙන් මහත් භොග දෙවීය.

8 සඞ්ඝානම් දෙවිතොමෝද මාණකුමරු සමග සංවාසයට

පැමිණ දූන් සතරදෙනෙක්ද පුතුන් සතරදෙනෙක්ද ප්‍රසව
9 කළාය. යළි එක්දිනක් රජතෙම මාණවම්මකුමරු සමග එක
තුව මගුලැත් කඳට නැගී කැමතිපරිද්දෙන් හැසිරෙන්නේ
10 එහි හිඳගෙණම පිපාස ඇතිව කස පැනක් බී ඒ අතිකෙතැයි
සිතමින් මාණවම්මියහට දුන්නේය. ඒ මාණවම්මතෙම එය
11 ගෙණ මේ රජතෙමේද යහළුය පරමාඥයෙන් සත්‍වයන්ගේ
කුමක් ඉඳුල්නම් වේදැයි සිතී. එහෙයින් මාවිසින් පානය
12 කටයුතුයයි සිතා එය පියේය. දිනනු කැමතිවූ නුවනැත්තෝ
මෙසේ මහත් උත්සාහ ඇතිවෙත්. රජතෙමේද ඒ දැක භය
13 ඇතිවූයේ උහු බී අවශෙෂය තෙමේ පානය කෙළේය. පින්
14 වතුන්ගේ ක්‍රියා සැමකල්හි එසේ වේ. එකල් පටන්
තමන් හොජනයෙහිද ශයනයෙහිද පරිහරණයෙහිද වා
හනයෙහිද සියවෙස්හිම තැබී.

15 මෙසේ ඔවුන් වසනකල්හි වල්ලභ (රජ) තෙම නරසීහ
(රජු) හා සමග යුඩ පිණිස උපාගතවීය. නරසීහතෙම
16 (මෙසේ) සිතී. "මේතෙමේ වනාහි මා සෙවිමෙන් වංශයෙන්
ආවාවූ සියරජය ලබන්නෙම්සි (සිතා) රු දූවල් අනලස්ව
17 සේවනය කරන්නේය. ඉදින් හෙතෙමේද මාසමග ගොස්
යුදකරමින් මරණෟපත වන්නේනම් උහුගේද මාගේද
18 කල්පනාවූ ඒ සියල්ල නිෂ්ඵලවන්නේය." ඒ රජතෙම
මෙසේ සිතා උහු තමන්ගේ පුරයෙහි නවත්තා තෙමේ
19 වල්ලභ රජුහා සමග යුඩකරන්ට පටන්ගත්තේය. මාණ
වම්මතෙමේද "ඉදින් මා ජීවත්වනකල්හි මේ රජතෙම යුද
20 යෙහි මියාද මාගේ ජීවිතයෙහි කුමන ඵලයෙක්ද" යි සිතී.
"එසේවූකල්හි උහුහාසමග විශ්වාසය නපුරුකොට කරණ
ලද්දේ වන්නේය. (හෙතෙම) තමාට සමාන භාවයෙන්
මට කුමක්පිණිස සඟ්‍රහකෙළේද?

21 එහෙයින් මාවිසින් (උහු) සමග යුඩමඩලයට යායුතුය උහු
හා සමගම ජීවත්විමහෝ මරණයහෝ සැපමය·" මෙසේ
22 සිතා සන්නාඩ කරණලද යොධජනයාඇත්තේ උතුම් ඇතු
පිට පැනනැංගාවූහෙතෙම ගොස් උහුට යුඩමඩලයෙහි තමා
23 දැක්වී. ඒ නරසීහතෙමේද උහු දැක තුටුපහටුව "අදෝමය මා
විසින් මොහුකෙරෙහි කටයුතුවූ මිත්‍රභාවය කරණලද්දේය"
24 යි විශ්වාස කෙළේය. ඉන්පසු මාණවම්මකුමරහුගේ සේනා
වද ඒ රජහුගේ සේනාවද සමගිවැ වල්ලභනම් රජහුගේ
25 සේනාව වැනසූය. මාණවම්මතෙමේද මෙරමාමඩනේ දෙවි
යන්ගේ යුදෙහි නාරායණයා සෙයින් එහි තමන්ගේ සූර
26 භාවය දැක්වී, නරසීහ රජ තෙමේද මාණවම්මකුමරුගේ

වික්‍රමයෙහි සතුටුවූයේ “ ඔබ වනාහි මාගේ ජයදායකයා ” යි
27 (කියා) සෙනඟයෙන් වැලඳ ගෙණ තමාගේ නුවරට අවුත්
ජයකෙළි කෙළ මාණවම්මකුමරහුගේ සේනාවට කටයුතු
සියල්ල කෙළේය.
28 යලිත් රජතෙම මෙසේ සිතීය “ මාගේ යහලුතෙම තමාවිසි
න් කළමනා සියල්ල කෙළේය; හෙතෙම අදපටන් මට නය
29 නැත්තේය. මා විසින් කටයුත්ත කොට මාගේ නයද සුඛක
රම් කෘතඥවූ කළ ගුණ දන්නාවූ පුරුෂයෝ ඉතාම දුලීභය”යි
30 (සිතා) ඇමතියන් රැස්කරවා මේ වචනය කීයේය. “ මාගේ
මේ යහලුවාගේ කම්හි තොපිද සාක්ෂීහ. මා විසින්ද සැපඵල
31 වන්නාවූ යහපත් කර්මයක් කටයුත්තේය. පූර්වෝපකාරීවූ
පුද්ගලයාට උපකාරකිරීම සත්පුරුෂයන්ගේ ධර්මයෙක. ”
32 මෙසේ කී කල්හි දේවයන්වහන්සේ යමක් යමක් කැමති
වන්නේද ඒ ඒ දෙය අපටද රුචිවන්නේයයි ඇමතියෝ රජුට
33 පිළිවදන් කීහු. ඉක්බිත්තෙන් ඒ රජතෙම මාණවම්ම කුමර
හට වාහන් සහිත සේනාවද සියලු උපකරණද සියලු කම්
34 කරුවන්ද දී යව යි කියා සේනාව සමග යන්නාවූ උහු බලා
35 වෙන්වූ පුතෙකුට අඩන්නාසේ හැඞී. මාණවම්ම ක්ෂත්‍රිය තෙ
මේද මුහුදු තෙරඅි නැව්නැඟී නොබෝ කලකින්ම වේගයෙ
36 න් එය ඉක්මවා අවුත්, සේනාව සමග ලඞකාවීපය පෙළමින්
ඇතුල්වී. ඒ අසා දාඨොපතිස්ස නම් රජතෙම පලාගියේය.
37 මාණවම්ම ක්ෂත්‍රියතෙමේද නුවරට ගොස් රජනොවීම පිය
වරක් පියවරක් පසු පස්සේ මතුබලායන්නේ පලාගියහු
ලුහුබැන්දේය.
38 එකල්හි ඒ ද්‍රාවිඩී සේනාතොමෝ ස්වාමිතෙම මහාරෙග
යකින් මැඩපැවතුනේයයි ඇසීල; ඒ අසා සේනාතොමෝ
39 ඉවත්වැ ගියාය. දාඨොපතිස්ස රජතෙම ඒ අසා මහත්
සේනාවක් ගෙණ මාණවම්මකුමරු කරා පැමිනැ යුඬ කර
40 න්ට ආරම්භකෙළේය. මාණවම්මකුමාරතෙමේද “ මාගේ
සියලු සේනාව ගියා. මා මළකල්හි මා සතුරාගේ අභි
41 මතය සමෘඬවන්නේය. එහෙයින් මම දඹදිවටම ගොස්
එතැනින් සේනාව ගෙණවුත් නැවත රාජ්‍යය ගණිමැ ” යි
සිතී. එහෙයින් ඒ තෙම එසේ කෙළේය.
42 නැවතද ගොස් යහලුවූ නරසීහ (රජු) දැක මනාකොට
43 සතුටුකරමින් සකස්කොට උහු සේවනය කෙළේය. රජුන්
සතරදෙනෙකුන් වනතෙක් ඒ මාණවම්මතෙම එහි වාසය
44 කෙළේය. ඉක්බිත්තෙන් “ මානයෙන් තදවූ කීර්තිධන
කොට ඇත්තාවූ මාගේ යහලුතෙම රජයපිණිස මා

45 සේවනය කරමින්ම කල් ගියේ මහලුවන්නේය; උහු බලමින් මම කෙසේ රාජ්‍යය කෙරෙම්ද මේ වාරයෙහි 46 වනාහි මාගේ සේනාව යවා ඒ රාජ්‍යය නොගන්නෙම්නම් මාගේ ජීවිතයෙන් කවර ප්‍රයෝජනද” යි නරසීහ තෙම සිතුයේය. මෙසේ සිතා හෙතෙම තමන්ගේ සේනාව 47 රැස්කරවා සුදුසු පරිද්දෙන් සනාහ කරවා රුචිවූ දෙය දෙවා තමන්ම ඒ සේනාව ගෙණ මුහුදු තෙරට ආයේ සිති 48 යම් රූප ඇත්තාවූ ස්ථිරවූ බොහෝ නැව් කරවා “පින්වත්නි මොහු සමග යව” යි ඇමතියන්ට කීයේය. එකල්හි සියලු ජනයෝ නැව්නගින්ට නොකමැතිවූහ.

49 එකල්හි නරසිංහතෙම නානාප්‍රකාරයෙන් සිතා තෙමේ ප්‍රතිවිඥානවැ හෙතෙම රාජලක්‍ෂණ වසයෙන් සම්මතවූ තමන්ගේ පෙරහරසියල්ලද තමන්ගේ ආභරණ සියල්ලද 50 උහුටම දී ඒ (මාණවම්මකුමරහු) නැවට නංවා “ යව මුහුදේ සිට මේ කොටඨනම් බෙරයත් වාදනය කරව ” යි නියෝග 51 කෙළේය. ඒ මාණවම්මතෙමේද සියල්ල එසේකළේය. ‘ අප 52 ගේ රජතෙමේ ගියේය ’ යි (සිතා) රජහු තනිකොට ජනයෝ 53 නැව් නැංගාහ. මාණවම්මතෙම ඒ සෙනග ගෙණයන්ට ආරම්භ කෙළේය. හුදෙක් ඒ මුහුදතෙම නුවරක්සමානවී.

54 ඉක්බිත්තෙන් හෙතෙම පටුනට පැමිණ වාහනසහිතව ගොඩබැස එහි තිපදවසක් වෙසෙමින් සේනාව සතප්පා උ 55 තුරු දේසයගෙණ ජනයා අත්පත්කොට චලනය නොකොට හැකිවූ මහාසේනාඇත්තේ නුවරට යන්ට පටන්ගත්තේය. පොත්කුටඨතෙමේද ඒ අසා මහත් සේනාඇත්තේ ඉදි 56 රියට ගියේය. දෙසේනාවෝ බුන්වෙරළැති සාගර දෙ කක් මෙන් එකතු වූහ. ඉන්පසු මාණවම්මතෙම ගන්නා 57 ලද ආයුධඇත්තේ ඇතුපිට නැගී පොත්කුටඨ (නම්ද්‍ර විඩ) පුරුෂයාද රජුද වෙන්කොට පැලවීය. පලායන් නාවූ හත්ඳඨයා දනව්වැසි මිනිස්සු දැක උහුගේ හිස ගෙණ 58 මාණවම්මරජහට දැක්වූහ. පොත්කුටඨතෙම පලාගොස් මේරුකතුරනම් දනව්වට පැමිනියේය.

59 ඉන්පසු ඒ රට ස්වාමිතෙම උහු දැක “මේතෙම මට බොහෝකල් යහලුය. එහෙයින් විපතෙහි පිහිට සොයා 60 ආවහු හැරදමනු නොහැකිය. හිමියාටද යහලුවාටද නිදෙස්වූ යමක් කෙසේ වන්නේද” යි සිතා හෙතෙම 61 විෂසහිතවූ පූපයක් කා මෙළේය. පොත්කුටඨ තෙමේද එයින්ම පූපයක් අනුභවකොට මෙළේය. ඒ මාණවම්ම රජහට මෙසේ ලඬකාවීපය නිරවුල් වූයේය.

62 ඒ මාණවම්මතෙම එසින්ම ලඞ්කාවිපයෙහි ජනයාගේ දුක වලක්වන්නාක්මෙන් එකල්හි ලඞ්කාවෙහි සේසත
63 එසවී. හෙතෙම බොහෝවූද අනගිවූද පින්කම් කෙළේය.
64 ඒ සියල්ල පදයක්පාසා කියන්ට කවරෙක්නම් සමර්ථවේද? කප්පගාමනම්වූද එසේම සෙපණ්ණිනම්වූද පධානරක්ඛ
65 නම් විහාරයෙහි සිරිනම් පහයද සිරිසඟබෝනම්වූ වෙහෙර ප්‍රසාද එලවන්නාවූ පහයද ඒ උත්තමතෙමේම කරවූයේය. ලෝවාමහපහයද එසේම ථූපාරාමයෙහි ගෙයද
66 සෙවෙනි කරවීය. ථූපාරාමයෙහිම ප්‍රාසාදයක් ඉදිකොට පාංශුකූලිකාඞ්ගය රක්ෂාකරණ භික්ෂූන්ට දින. චෛත්‍යය මස්තකයෙහි ජරාවට පැමිනි තැන් පියවී කෙළේය. එහිම බොහෝවූ ජරාවට පැමිනි ආවාසයන් පියවි කෙළේය.

[මෙහි සතළිස්සත්වෙනි පරිච්ඡේදයේ කෙළවර නොපෙණේ, මෙතැන පටන් සතළිස්අටවෙනි පරිච්ඡේදයසිහැයේ. පූජාවලි අනුසාරයෙන් මිට අනතුරුව අග්බෝ රජහුගේ නම පණෙයි]

---

# 48 වෙනි පරිච්ඡේදය.

---

1 ................................සුලභවූ ප්‍රත්‍යයඇති ආවාසය කරවා ධම්මරුචිනම් නිකායේ හෝ අභයගිරිවිහාරයෙහි භික්ෂූන්ට ඒ රජතෙම දුන්නේය. රාජිනී දිපකනම් ගමද
2 දුන්නේය. මහා නෙත්‍රාදිපාදනම් ආවාසය වෙන්කරවා ඒ භික්ෂූන්ටම දින. හෙතෙම කො(ක)වාතයෙහි දෙවතිස්සනම් ආවාසය ඔවුන්ටම දින. හෙතෙම මාතලයෙහි
3 කාදම්බගොනනම් ආවාසය කොට දෙවපාලිනම් ජනපදයෙහි එසේම ගිරිනම් නුවරක් කරවා අන්තරසොබ්භ
4 යෙහි දෙවනම් විහාරයක් කොට රාජමාතිකනම් ආරාමයක් කොට පාංශුකූලික භික්ෂූන්ට දුන්නේය. ගෝණ
5 නම්වූ විහාරයෙහි ප්‍රධාන ගෙයක් කෙළේය. වඩ්ඩමන් නම්වූ බොධිවෘක්ෂයෙහි අිරාගියාවූ ගෙයද කරවී. සඞ්ඝ
6 මිත්තනම් විහාරයෙහිද අනිකුත් තන්හිද ඒ ඒ විහාරයන්හි අභිනව කර්මාන්තයන් මහත්වූ යසස්ඇති ඒ රජතෙම
7 කරවි. ඒ රජතෙම රන් සව්සිදහසක් නිමවා සෑගිරියෙහි

ජරාවට පැමිනි තැන් නවකම් කෙළේය. පන්බත් (නම්)වූ
8 තල්වතුවෙහෙර කරවා මහාසේනරජහුගේ නම්ඇති විහාර
යටදෙවී. බිඳුනාවූ ගොඩිගමු වැවද පෙර තිබුනු පරිද්
9 දෙන් බැන්දේය. හෙතෙම සියලුම දනභාඩයද සියලු
සඞයන්ට දුන්නේය.

10 හෙතෙම ලඞකාවීපවාසී ජනයන්සමග පෙහෙවස් වෙ
සේ. ලොකොත්තර සැපදෙනපිණිස ඔවුන්ට ධර්මයද දේ
11 සනාකෙරේ. උහුගේ රජයෙහිවූ සියලුජනතෙම ස්වර්ගයට
හිතවූ කර්මය මනාකොට කෙළේය. "මහීපාලතෙම යමක්
කෙරේද උහුගේ ජනතෙම එය කෙරේ—එහෙයින්
12 මහත් ප්‍රඥාඇති රජතෙම සැමකල්හි ධර්මයෙහිම හැසි
රෙන්නේය. හෙතෙම විසූ විසූ තැන මහත් යසස් ඇත්
13 තේ වේ. පිරිවර සමන්විතවූයේ කෙළවර නිර්වාණයටද
යන්නේය, එහෙයින් නුවනැත්තා ආත්මාර්ථයහා පරාර්ථයද
14 බලන්නේය. ඉදින් හික්මුනාවූ එකම තමා කරණකොට
ගෙණ සියලු මහජනයෝද හික්මීමට යෙත්නම් කවර
15 නම් පඩිතයෙක්තෙම ඒ(හික්මීම) නසන්නේද?"—සත්ව
යන්ගේ යම් ප්‍රයෝගයක්තෙම දෙලොව වැඩ එලවන්නේ
16 වේද රු දවල් අනලස්වූ උහු විසින් නොකරණලද්දවූ ඒ
ප්‍රයෝගයක් නැත්තේය. ඒ රජතෙම තමාවිසින් අඳින
17 ලද්දවූ සියුම් වත්ද පාංශුකූලිකාශධරභික්ෂූන්ට සිවුරුපිණිස
දෙවී. ඒ රජහුගේ අස්ථානයෙහි යෙදීමක්හෝ නුසුදුසු
18 සංග්‍රහයක්හෝ වරදසහිතවූ ප්‍රයෝජන විදීමක්හෝ සර්ව
ප්‍රකාරයෙන්ම නොවී. යම් යම් සඞකෙනෙක් යමක්
යමක් ආහාරකොට ඇත්තාහුද ඔවුන්ට ඒ ඒ දෙය හෙතෙම
දෙවූයේය. යම් යම් සඞකෙනෙක් යමකින් සැප ඇති
19 වෙද්ද ඒ ඒ සත්වයන් එයින් සුවපත්කරවී. ශාන්තිය එල
වන්නාවූ ඒ රජතෙම මෙසේ සහවුරුද්දක් පින්කොට ශක්‍ර
දෙවේන්ද්‍රයාගේ සමීපයට ගියේය.

20 ඉක්බිත්තෙන් උහුගේ මල්වූ පෙර පැවත්ම පරිද්දෙන්
රාජ්‍යභාරය ගන්ට සමර්ථවූ කාශ්‍යපනම් ක්ෂත්‍රියතෙමේ රජවී.
21 පියෙක් සිය පිතෙකුට පරිද්දෙන් හෙතෙම දනයෙන්ද ප්‍රිය
වචනයෙන්ද අර්ථයෙහි හැසිරීමෙන්ද මහජනයාට සංග්‍රහ
22 කෙළේය. ඒ ඒ අයට සුදුසු පරිද්දෙන් තනතුරුද දෙවී, තෙ
මේත් සියලුදුකින් වැලැක්කේ භොගයන්ද අනුභවකෙ
23 ළේය. ඒ ක්ෂත්‍රියතෙම ගිහින්ගේද භික්ෂූන්ගේද බ්‍රාහ්මණ
24 යන්ගේද ස්වකීය (ස්වකීය)ආචාරයෙහි හැසිරවූයේය. සතුන්
නොනැසිය යුතුය යන ආඥවක්ද කරවී. මස්තොට (ආවාස)

දෙකක්ද හෙළිගාමනම්වූ ආවාසයද වෙළුදගම ආරාමයද
25 එසේම කඤසපගිරිනම් ආරාමයද එසේම අඹවනනම් ආරා
මයද කරවී. භොගඋපදනා ගමක්ද දුන්නේය. [........]*
26 ඔවුන් අතුරෙන් සියල්ලන්ට බාලවූ මහින්‍දනම් ක්‍ෂත්‍රිය
තෙම පැමිනියාවූ රාජ්‍යය ඇත්තේද අභිෂෙකප්‍රාපත
නූවූයේය.
27 උහුගේ වනාහි බොහෝකල් ඇසිරුකළාවූ නීලනම් මිත්‍ර
යෙක් රාජ්‍යලාභයෙන් පූර්වයෙහිම මරණ පත්වී. හෙ
28 තෙම උහු සිහිකරමින් රාජ්‍යය රුචි නොකෙළේය අදෝ
මය ! යහලුවා නැතිබැවින් ලබ්කාවිපයෙහි සුවඑලවනනාවූ
29 රාජ්‍යසපවා නොසිතීය. යහලුවෝනම් ඉතා දුලීභවෙත්
එහෙයින්ම "බුදුන්විසින් යම්කිසි ලෞකික ධර්මකෙනෙක්
30 වෙද්ද එසේම ලෝකෝත්තර ධර්මකෙනෙක් වෙද්ද නිර්වාණ
ගාමීවූ ධර්මකෙනෙක් වෙද්ද සත්‍වයන්ට ඒ සියල්ලෝම යහ
පත් මිත්‍රයාකරා පැමින (සමෘඩ) වන්නාහුය. එහෙයින්
කල්‍යාණ මිත්‍රයන්කෙරෙහි සෑමකල්හි ආදර කටයුතුය" සි
වදාරණ ලද්දේය.
31 එහෙයින් හෙතෙම ලක්දිව ජනයන් රක්නාපිණිසම
ජීවත්වෙන්නෙක් මෙන් ආදිපාදවම රාජ්‍ය විචාරණය කෙ
32 ළේය. හෙතෙම තමා සොහොයුරු කසුප් කුමරුගේ පුත්
වූ අග්බෝකුමර උපරජබැව්හි තබා බොහෝවූ භොගදී
33 නැගෙණහිරදෙසය දී එහි වාසයකරන්ට යැවී, සියකුම
34 රුට දකුණුදෙස දීන. මහාපාළිනම් දානසාලාවෙහි දාන
යද (දවසක්පාසා) දසගැලක් බරදෙවූයේය. සියලු හෝග
35 යන් තමන්හා යාචකයන්ට සමකෙළේය. යදියන්ට නොදී
හෙතෙම කිසිවක් ප්‍රයෝජනයට නොගන්නේය. සිහිනො
කිරීමෙන් අනුභව කරණලද්දේහෝ තමන් අනුභවකළ
36 දෙසින් දියුණක් දෙන්නේය. හෙතෙම භික්‍ෂුණීන්ට සව
කීය නම් ඇත්තාවූ අසපුවක් කරවී. නගරගල්ලනම් ගමද
37 ආරාම මරියාදකනම් ගමද (ඒ මෙහෙණිඅසපුවට) දීන.
මහින්‍දතටනම් ආරාමය සිවුපසයෙන් සමෘඩ කොට කරවී.
38 පූණ්‍ය ගුණයෙහි ඇළුනේ අනිතුදු පින් බොහෝසේ කෙළේ
ය. තුන් හවුරුද්දක් මෙසේ රාජ්‍යය කොට ඒ මහත් ප්‍රඥාඇති
(මහින්‍ද) තෙම යහලුවා සොයා යන්නාක්මෙන් දෙව්ලොව
39 ගියේය——දකුණුදෙස වසන්නාවූ අග්‍රබොධි කුමාරතෙම

* මෙහිපෙළ මදක් අඩුයි. මේ කාශ්‍යපනම් රජතෙම සත්අවුරුද්දක් රාජ්‍යය
කරවී. පූජාවලික්‍රමයෙනි.

නිසියම් කටයුත්තකින් නුවරට ආයේය. උහු එහි වසන
40 කලම මහින්ද ආදිපාදතෙම මෙළේය. එහෙයින් රාජ්‍යය
උහුගේ හස්තද්‍රාපනවිය.

41 හෙතෙම එය හස්තද්‍රාපන කොට තබාගෙණ නැගෙණහිරි
42 දෙස අධිපතිවූ අග්‍රබොධිකුමාරයාට හස්නක් යැවිය. ඒ (අග්‍ර
බෝධිකුමාර) තෙම අවුත් සිලාමෙඝ යන නම් ඇතිව රජවී.
රජතෙම (ඒ අග්‍රබොධි) කුමාරයාද උපරාජ්‍යයෙහි අභිෂෙක
43 කෙළේය—ඒ උපරජතෙම "සිතිච්ලිබරමුද නුඹවහන්
සේ භොග අනුභව කළමැනව" යි රජහු පවරා තෙමේ රාජ්‍ය
44 විචාරණය කෙළේය. මේතෙම සුදුසු පරිද්දෙන් ජනයාට
නිග්‍රහද සඞ්ග්‍රහද කළේ. නුවනැස් ඇත්තේ ලඞ්කාවීපයෙහි
45 විනය විරුඬවූ සියල්ල මාගීයට පැමිනවිය. මෙසේ ඒ දෙ
දෙනා වසනකල්හි පව්කම් කරන්නාවූ ජනයෝ අවකාස
නොලබන්නාහු "මොව්හු ඔවුනොවුන්ට විරුඬකටයුතනා
46 හ" යි සිතුහ. කේලාම්කාරයෝ රජුකරා පැමින රහස්
කොට "නුඹවහන්සේ නමින් රජය; ස්වභාවයෙන් අනිකෙක්
47 රජය; මේ උපරාජතෙම මහජනයා සඞ්ග්‍රහකොට රාජ්‍යය
ගන්නේය; නොබෝකලකින් රජවෙයි සැකනැතැ" යි
48 කීහු. ඒ අසා රජතෙම කුමාරයාකෙරෙහි බිඳුනේය. කුමාර
තෙමේද ඒ දැන රජහට දමරිකව සිය රටට පලාගොස්
49 එහි ජනයන් සඞ්ග්‍රහකොට මහත් සේනාවක් කැටිකොට
ගෙණ යුඬකරන්ට පටන් ගත්තේය. කදලිනිවාත නම්වූ
50 ස්ථානයෙහි භයානකවූ යුඬයක් විය. ඒ කුමාරතෙම එ
තැනදි පැරද මලයරටටම ගියේය. ඉන්පසු ඒ කෙළෙහි
51 ගුණදන්නාවූ රජතෙම තමා සොහොයුරන්ගේ රාජ්‍යදනාදී
52 උපකාර සිතා ප්‍රකාශයේ හැඬිය. කුමාරතෙමේද ඒ අසා
මොලොක් සිත් ඇතිවි. මෙසේ ඔව්හු ඔවුනොවුන්ට
මොලොක්බව ප්‍රකාශකළහ.

53 ඒ රජතෙම තමන්ම හුදකලාව මලයරටට ගොස් ඒ කුම
54 රහු රැගෙණ සියනුවරට ආයේය. එයින් නිසැකවම ප්‍රියසිත්
55 ඇතිවේයයි සිතා සඞ්ඝානම්වූ දුව උහු සමග විවාහකරවී.
ඒ රජුහා සමග විස්වස් ඇත්තේ ඒ සඞ්ඝාව සමග වසන්නාවූ
56 හෙතෙම නිසියම් දොෂයෙක්හි කිපියේ කුමරියට පහරක්
දුන්නේය. ඕතොමෝ පියානන්කරාපැමින "නුඹවහන්සේ
විසින් දෙනලද ස්වාමිතෙම නිකරුණේ මා මරයි" කියා බැ
57 ගෑ පත්ලෙස රජහට ඇඬිය. රජතෙමේද ඒ ඇසූ කෙණෙ
හිම "මාවිසින් ඒකාන්තයෙන් නපුරුකොට කරණලදැ" යි
සිතා වහාම මෙහෙණවරට ගොස් ඇය පැවිදිකරවී.

58 ඉක්බිත්තෙන් ඒකුමරිය මසිලනුවන්ගේ අග්‍රබොධි යන නම්ඇත්තාවූ පිතෙක් ඉතා බොහෝ කල්ම ඇය කෙර
59 රඟි ඇළුනාවූ සිත් ඇත්තේ “ ඇයගෙණ පලායන්ට මේකා
60 ලය ” යි දැන අප්‍රසිඬව ඒ කුමරිය ගෙණ හුදකලාවම රුහුණු ගියේය. ඒ අග්‍රබොධිරජතෙම අග්‍රබොධි (නම් උප
61 රජු) ගෙණ ඒ අග්‍රබොධිකුමාරයා නසන්ට රුහුණට ගොස් පිවිසියේය. අග්බෝ (උපරජ) තෙම තමාසොහො යුරුවූ අග්බෝ (රජු) වලක්වා පශ්චිමපර්වතයේදී අක්බෝ
62 කුමරු නසනපිණිස තෙමේ ගියේය. මහාබලඇත්තේ සියලු රුහුණ අත්පත්කොට උභූසමග යුඩකොට සඞ්ඝා
63 නම්වූ තමාගේ භායඞාව (අත්පත්කොට) ගත්තේය. එතැන්
64 පටන් සුවපත්වූ සමගිවූ ඒ තුන්දෙන ඔවුනොවුන්කෙරෙහි විශ්වාස ඇතිව රිසිසේ වාසයකළෝ. වාහපාරනිමකනම් ආ
65 රාමයද එසේම මාණගගබොධිනම් ආරාමයද අභයුත්තරවි හාරයෙහි සහතතුද්දෙසභොගනම් ආරාමයද (ඇත්කුස්)
66 නම් විහාරයෙහිත් පුනාපිටිනම් විහාරයෙහිත් මහපිරිවෙ න් හිත් වහදීව (නොහොත් වහකෝට්ට) නම් විහාරයෙ හිත් ප්‍රාසාදයන්ද ථූපාරාමයෙහි ගෙයි දිරුවාවූ දොරටුද පියව් කෙළේය. ඒ ථූපාරාමයෙහි මැම්ද පරිවර්තනය
67 කෙළේය. මෙසේ ශක්තිවූපරිද්දෙන් අනික් පින්කම්ද කොට සතළිස්වෙනි වර්ෂයෙහි (අග්‍රබොධි සිලාමේඝ) රජ තෙම කම්වූ පරිද්දෙන් පරලොව ගියේයි.

68 ඉක්බිත්තෙන් ශූරවූ අග්‍රබොධිනම් උපරාජතෙම රජ විය. මහින්‍දනම් නුවනැත්තාවූ ආදිපාදයන්ගේ පුත්‍රවූ හෙ
69 තෙම ශාසනයද ලෝකයාද සූදුසු පරිද්දෙන් සංග්‍රහ කෙ ළේය. තමන්ගේ පුත්‍රවූ මිහිඳුකුමරු උපරජයෙහි අභි
70 ෂෙකකෙළේය. හෙතෙම මහාබොධියෙහි දිරුවාවූ ගෙය තරකොට නවකම් කරවිය. කලන්‍දය මලලවාතය යන
71 නම්ඇති ආරාම දෙකක්ද කරවී. ධර්මකර්මයෙන් සකස් කොට බුදු සස්න සුඬ කෙළේය. ධර්මයෙන් විනිශ්චයකර
72 මින් මිථ්‍යාධිකරණනාගනානන් ශුන්‍යකෙළේය. මුළුලක්දිව ගිලනුන්ට බෙහෙත්ද මගුල් අවමගුල්ද තෙමේම විචා රණය කෙළේය. තුන්නිකාය වාසීවූ භික්ෂූන්ට ලභබත්
73 දෙවිය. තමන්ට යෝග්‍යවූ මහාඝිවූ බොජුන් පාංශුකූ
74 ලාඞ්ගය ධරණ භික්ෂූන්ට දෙවිය. සයංවසීවූ හෙතෙම මේ ආදිවූ පින්කොට පොළොන්නරුවෙහි වසමින් සහවුරුද්ද කින් චුතවී.

75 ඉන්පූර්වයෙහිම උහුගේ පුත්‍රවූ යුවරජතෙම මළේය.
76 එහෙයින් ඒ රාජ්‍යය එකල්හි අපුත්‍රකවී. සිලාමෙඝරජහුගේ
රාජ්‍යයට යෝග්‍යවූ මහත් පින්ඇත්තාවූ ලෝකයාට සංග්‍රහ
77 කටහැකිවූ මහිඳුනම් පුත්‍රයෙක් විය. උහු උපන්දිනම රජ
තෙම නක්ෂත්‍ර පාඨකයන් පිළිවිස රාජ්‍යයට යෝග්‍යයයි ඔවුන්
78 විසින් ප්‍රකාශකරණලද වචනය අසා ඔවුන්ට මනාකොට
වස්තු දී එපවත් සැඟවීය. ඉක්බිත්තෙන් ඒ සිලාමෙඝරජ
79 තෙමේ වයසට පැමිනියාවූ උහු සිය සෙනෙවි කොට
සියලු රාජ්‍යයම උහුගේ අතෙහිතබා තෙමේ වාසය කෙ
80 ළේය. මහත්නුවනැත්තාවූ හෙතෙම දැහැමින් රාජ්‍ය
විචාරණය කෙළේය. ඒ සිලාමෙඝරජු මළකල්හිද ක්‍රම
දන්නාවූ ඒ තැනැත්තේ අග්‍රබොධි නමැත්තාවූ උහු අතින්
81 සේනාපතිධුරය නොගත්තේය—එකල්හි එතෙම රජ
82 හුගේ කිසියම් කටයුත්තකින් ගොස් මුහුදු තෙර මාතොට
නම් පටුනෙහි වෙසේ. හෙතෙම සුළු පියහුගේ මරණය
83 අසා සොරු රාජ්‍යයගෙණ නුවර නසත්යයි සිතා වේගයෙන්
ආයේය. ඊට පෙරතුව උතුරුදෙසෙහි රැටියන් සහිතවූ
84 මඬලාධිපතිහු ඒ දෙශය උදුරාගෙණ රජහට අසිතිඅය සුන්
කළහ. හෙතෙම ඒ අසා මහාසේනා ඇත්තේ උතුරු
දෙසට ගොස් සියලුම රැටියන්සහිත මඬලිකයන් මැඩ
85 පවත්වා රජහු මළතැනට ගොස් දේවිය දැක අඬා අස්වසා
කල්වූ පරිද්දෙන් “ මහා දෙවිනි මගේස්වාමිතෙම මළේ
86 යයි නොසිතව මම දිවයින රක්නෙමි නුඹවහන්සේ රාජ්‍යය
කරව ” යි මේ වචනය කීයේය. පාප බුද්ධි ඇත්තාවූ ඕතො
87 මෝ ඉවසූවාක්මෙන් තුෂ්ණීම්භූතව රිසිසේ වසනු කැමැත්තී
රහස උහු මරන්ට යෝජනා කළාය. ඒ සේනාපතිතෙම
88 එය දැනගෙණම බිසවට ආරක්ෂා විධාන කොට ඒපක්ෂ
යට අසිතිවූ මහජනයා යුඬකොට පැන්නුයේය. ඉන්පසු
89 හෙතෙම ඒ මෙහෙසිය බන්දවා යහනෙක්හි බහාගෙණ
නුවරට ගොස් උපකරණ සහිතවූ රාජ්‍යය ගත්තේය. සිලා
90 මෙඝනම් රජහුගේ බෑනවූ මහාසේනා ඇත්තාවූ මහා
ධන ඇත්තාවූ දප්පුළනම් ආදිපාදකෙනෙක් ඇත. හෙ
91 තෙම කළාවැව වසමින් සේනාව රැස්කරවා සංගමුනම්
පියසට යුදකරණු පිණිස ආයේය. සේනාපතිතෙම ඒ
92 ප්‍රවෘත්තිය අසා සමෘඬවූ සේනාවාහනඇත්තේ ඒ බිසවද
93 රැගෙණ වහාම එහි ගියේය. ඒ දෙදෙනාගේ භයානකවූ
යුඬයක් එහි විය. එකල (දප්පුළනම්) ඇපාතෙම පසුබස්
94 නාවූ සේනාව දැක පලාගොස් සේනා සහිතවැ වලස්

පව්වට නැංගේය. උහු එහි පලවා සේනාපතිතෙම සුවසේ විසී.

95 උතුරු රට මඩලිකයෝද නුවර ශූන්‍යයයි අසා ඒ දෙශයෙහි සියල්ලෝ සමාගම්ව එකල්හි පුරය ගත්හ. සූරවූ සපිරපරාක්‍රම ඇති ඒ සේනාපතිතෙම වනාහි ඔවුන් පසු බැස්වීය. ඉක්බිතෙන් නුවරට අවුත් විධිවූ පරිද්දෙන්
96 රාජ්‍යවිචාරණය කෙළේය.—භික්ෂුසඞ්ඝයාටද ලෝවැසි ජනයාටද මත්ස්‍යයන්ටද මෘගපක්ෂීන්ටද නෑයන්ටද සේ
97 නා සමූහයාටද කටයුතු සියල්ලම කෙළේය. පසුව අනු බලයට පැමිනියාවූ දපුළුතෙම මලයරටට ගියේ බෑනන්
98 දෙනනාද රුහුණින් කැඳවා සියලුම රටදනව්වැස්සන් ගෙණ බොහෝ වාහනඇත්තේ රාත්‍රියෙහි නුවරට අවුත් මුහුදමෙන් පැතුරුණේය. හාත්පසින් උද්ඝොෂණය කර
99 මින් සේනාසමූහතෙම නුවර වට කෙළේය. අශ්වයන්ගේ හෙසාරවයෙන්ද ඇතුන්ගේ කුංචනාදයෙන්ද තූර්‍ය්‍ය ශබ්ද
100 යන්ගේද කාහලභෙරීන්ගේ නාදයෙන්ද යෝධයන්ගේ ගර්ජනාවෙන්ද එකල්හි අහස නොපැළුනේද. එකල්හි
101 සේනාපතිතෙම මහසේනාව දැක සතුටුව ඒ ප්‍රවෘත්තිය තමන්ගේ සේනාසමූහයට "මේ රාජපුත්‍රයෝ තුන්දෙන
102 මහත්වූ සේනාවගෙණ අපේ නුවර වට කොට වසාගත්හ. මෙහි තොපවිසින් කුමක් කටයුතුද" යි කීය. උහුගේ යුධ
103 කැමතිවූ සූරයෝ මෙසේ කියනලද්දාහු සෙනෙවිහට කීවාහුය. "දේවයන් සේවනය කරණ දවස්හිම ජීවිතය සේව
104 කයන්ගේ නොවේ. ඉදින් මෙසේවූ කාලයෙහි ජීවිත කැමතිව පසුබැස්සෝ වෙමුනම් ස්වාමිතෙම මෙපමණ කලක් අප සැපවූපරිද්දෙන් කුමට පොෂණය කෙළේද".
105 මෙසේ කීකල්හි උත්සාහ ඇත්තාවූ (සේනාපතිතෙම) රාත්‍රියෙහි සේනාව සර්ජිතකොට අරුණ නැගිකල්හි කර
106 ණලද කම්ඇති ඇතුපිට නැගී, එක් දොරටුවකින් නික්ම වැටෙන හෙනක් සෙයින් යෝධයන් දහස් ගණන් සමග
107 ඉවසිය නොහැකිවූ යුඩයක් කෙළේය. ඒ ඇපානන්ගේ සේනාව ඒ ඒ දිග විසුරුවා හැර එකතන්හි (සෙනාහා)
108 එකතුව සතුට මොනවට වින්දේය. දපසුළනම්වූ ආදිපාද තෙම නසනලදින් අවශෙෂයන් ගෙණ පෙරවරු කල්හිම පැරද රුහුණු පලා ගියෙය.

109 එකල්හි රුහුණින් ආවාවූ ඒ රාජපුත්‍රයන් දෙදෙනාද
110 ජීවග්‍රාහයෙන් අල්වාගෙණ නුවරට ගියේය. මෙසේ පැමිනි ජය ඇත්තාවූ සූරවූ (සේනාපති) තෙම දිව

සිත නිරවුල්වූ කල්හි නැගෙණහිරදෙස සාදනුපිණිස සව්
111 තිය සේනාවන් පිටත් කෙළේය. ඔව්හු ගොස් ඒ දෙ
සද උතුරුදෙසද සාද නොබෝ කලකින්ම මහාසේනාවක්
112 සඟුහ කෙළේය——රජතෙමේද ඒ මහබිසව "මැ හරින්
113 වද මරන්වද නොහැකිය" යි සිතා තමන්ගේ බිරිඳ
කෙළේය, ඔවුන්ගේ සංවාසයට පැමිණ ගැබියක්තෙම පිහි
ටියේ විය. ඕතොමෝ ධනලාභයට හේතුවූ පුණ්‍යලක්‍ෂණ
114 යෙන් යුක්තවූ පුත්‍රයෙක් වැදිය. එතැන්පටන් ඕතොමෝ
රජහට ඉතා ප්‍රියවිය. ඒ රජතෙමේද ඒ පුත්‍රයාට භොග
115 සහිතවූ උපරාජ්‍යය දුන්නේය. පැදුම් දෙස සිටියාවූ ආදි
116 පාදයෝ ඒ අසා මේ අපට විනාසයයි සිතා දෙදෙන එක
තුව දෙපසෙහි සේනාවද මහත් ධනයද රැගෙණ රුහුණු
දෙසින් සහෝදරයා කැඳවා සම්බන්ධකොට මහත් සේනා
ඇත්තාවූ ඔව්හු ගඟාතීරයෙහි වාසය කළෝ. රජතෙම
117 මේ සියල්ල අසා ඒ ඒ තන්හි මඬලිකයන් සතුටු කොට
ගෙණ තිසි දුණ්ඩකෙනෙකුන් මරවා නුවරෙහි රැකවල්දී
118 කටයුතු මනාකොටයොදා මහසෙනග ගෙණ ඒ මෙහෙ
සියද ගෙණ මහුම්මාරනම් ගමෙහි කඳවුරු පිහිට වූයේය.
119 උහුගේ ඊම දැන ඒ ආදිපාද තුන්දෙනාද කොවිළාරනම්
ගමෙහිදී මහත් යුද පැවත්වූහ——ඉක්බිත්තෙන් මහත්
120 සේනාඇති රජතෙමේ ඒ සේනාව නැසූයේය. ඒ දපසුළ
තෙමේ පලාගියේය. ආදිපාද දෙදෙනෙක් මරණු ලද්දෝය.
121 එහිද ලැබූ විශෙෂ ජය ඇත්තාවූ රජතෙම නුවරට අවුත්
රාජකෘත්‍ය විචාරණය කෙළේය. මහදන් පැවැත්වූයේය.
122 හෙතෙම මහාබොධිවෘක්‍ෂරජයාටද මහාචෛත්‍ය තුණ
වද ධාතුවටද සත්කාර කොට මහාපූජා කරවී. දපසුළ
123 තෙම රුහුණට පැමිණ එහි ආවාවූ කලෙක්හි නැවත රජුහා
යුඩකරණ පිණිස සේනාව පිළියෙළ කෙළේය. ඒ රජ
124 තෙම පුතුන්වද මුනුබුරන්වද දෙසය නිරවුල් කරණුපිණිස
සියලුම භික්‍ෂූන් ථූපාරාමයෙහි රැස්කරවා අනිකුදු යුතු
125 අයුතු දැනීමෙහි දක්‍ෂවූ මහාප්‍රාඥයන්ද (රැස්කරවා) සියලු
රාජධර්මයන්හි දක්‍ෂවූ ක්‍රමදැනීමෙහි පණ්ඩිතවූ (රජතෙම) ඒ
126 ප්‍රවෘත්තිය දන්වා ඔවුන් විසින් මනාකොට පසස්නා ලද්
දේ සිවුරඟ මහසෙනග ඇත්තේ සියලු උපකරණ අනු
127 ගතවූයේ දිවසින සැම තන්හිද නුවරද කටයුතු යොදා නික්
මුනේ නොබෝ කලකින්ම මාරපව්වට ගියේය. ඒ දෙසය
128 මදීනය කොට වහාම පර්වතයට නැංගේය.

ඒ දැක රුහුණු සියල්ලෝම භයපත්වූවෝ උහු වසඟබවට
129 ආවාහුය. ඉක්බිති දප්පුළයන් සමග මිත්‍රසන්ධිවය කොට
130 ගර්වසහිතව උහු අතින් ඇතුන්ද අසුන්ද මැණික්ද ගෙණ
රුහුණු භුක්තිවිඳින්නාවුන්ට කළුගඟද සීමා කොට ගඟින්
131 මෙතර ගෙණ රජහුගේ භුක්තිය කරවී. මෙසේ මහත්
තේජස් ඇත්තේ ලඞ්කාද්වීපය (සතුරුභය නැතිකිරීමෙන්)
නිෂ්කණ්ටකකොට එකච්ඡත්‍රවූයේ නුවරට අවුත් සැපසේ විසී.

132 අධිපතිවූ ඒ රජතෙම දුමවිහාරකනම් පිරිවෙණ කරවී.
පොළොන්නරුවෙහි නැඹිලිතොටනම් පිරිවෙණක්ද කරවී.
133 අභයගිරියෙහි මහාලෙඛනම් පිරිවෙණ කරවීය. එසේම
එහිම තුන්ලක්‍ෂයකින් නොයෙක් මහල් ඇතිකොට අන්‍යවූ
134 වෛජයන්තප්‍රාසාදයක් මෙන් ඉතා මනොඥවූ රතනප්‍රාසා
දය කරවා මහත් ධන ඇත්තාවූ රජතෙම ජම්බුනද රන්
135 සැටදහසකින් අනර්ඝ චූඩාමාණික්‍ය යුක්තකොට සර්වඥ
136 ප්‍රතිබිම්බයක්ද කරවා සියලු උපහාරයෙන් මාහැඟිවූ පූජා
කරවා ප්‍රාසාද පූජාවෙහි තමන්ගේ සියලු රාජ්‍යය පරිත්‍යාග
137 කෙළේය. රිදියෙන් නිමනලද ඉතා මනොඥවූ යශපත්වූ
බෝධිසත්ව රූපයක්ද කරවා සිලාමෙඝනම්වූ මෙහෙණින්
138 ගේ විහාරයෙහි තැබී. ථූපාරාමයෙහි සැයට විසිතුරු
පිණිස අතරතුර රිදීපටක් කොට රණින් නිමනලද සැට්
139 ටයක් කෙළේය. එහිම දීරාගියාවූ ප්‍රාසාදයද හෙතෙම
කරවූයේය. ස්මෘතිමත්වූ ඒ රජතෙම මහත්වූ පූජාකරවා
140 හෙමසාලිවිහාරවාසිවූ මහාස්ථවිරයන් වහන්සේලවා අභි
ධර්මය කියවී. ඒ විහාරයෙහි ඒ ස්ථවිරයන්වහන්සේට පරි
භොග පිණිස පොකුණක්ද කරවී.

141 ඒ රජතෙම ඒ ඒ තන්හි බොහෝවූ ජීර්ණ දේවමන්දිර
142 යන් කරවා දෙවියන්ගේ පිළිරූද මාහැඟිකොට කරවී.
බමුණන්ටද මාහැඟි රාජභොජනය දානයකොට රන්තැටි
143 වලින් උක්සකුරු සහිත කිරි පෙවී. හෙතෙම පිළුන්ට
ගොණුන්ද දිවෙල්ද දීන, ගොණුන් නොගන්නාවූ දෙම
144 ළන්ට අසුන් දුන්නේය. අනාථවූ ලජ්ජාසහිත යම්කෙ
නෙක් වෙද්ද ඔවුන්ටද හෙතෙම රහස සඞ්ග්‍රහ කෙළේය.
උහු විසින් සුදුසු පරිද්දෙන් සඞ්ග්‍රහ නොකරණ ලද්දෙක්
145 ලඞ්කාද්වීපයෙහි නැත්තේය හෙතෙම ගවයන්ට ආහාර
යක් කෙසේ දියයුතුදැයි සිතා උන්ට කෙත් දහසෙක්හි
කිරිවැදුනාවූ ගොයම් දුන්නේය. හෙතෙම කළාවැවෙහි
146 ජලසඞ්ඝාතය ස්ථිර කෙළේය. මෙයාකාරවූ උහුගේ පුණ්‍ය
කර්මය ප්‍රමාණ රහිතය, ඉතා බොහෝය.

147 එකල්හි උහුගේ පුත්‍රවූ යුවරජතෙම ස්වර්ගප්‍රාප්ත විය, සේ
නාපතිකාලයෙහි උපන්නාවූ අන්‍යවූ කුමරුවෙක් ඇත්තේ
148 ය. රජතෙම රාජපුත්‍රයන්ගෙන් බියපත්වූයේ රජවෙන්ට
සුදුසුයයි (සිතා) යම්සේ මරවන්ට නොහැකිද එපරිද්දෙන්
ඒ කුමාරයා වර්ධනය කරවිය.

149 ඒ කුමාරතෙම වනාහි එක්කලෙක සතුරන් විසින් නුවර
වටකළ කල්හි පියාකරා එළඹ යුඩයෙහි හැසිරෙන්නාවූ
150 ඇතෙක් ඉල්විය. හෙතෙම භයානකවූ මාරයාගේ ඇතාට
උපමා ඇත්තාවූ මහ ඇතෙක්ද සියලු ආයුධ ශිල්පයන්හි
විසාරදවූ යුදපුරුදුවූ සේනාවක්ද දුන්නේය.

151 එකල්හි ඒ (කුමාර) තෙම "මේතෙමේ කාලය" යි නියා
සිරිය බැඳ හසතිරාජයාට නැගී නුවරින් පිටත නික්ම දුකසේ
152 දිනියයුතුවූ සියලුම සේනාව විසුරුවා ජය ගත්තේය. ඒ
153 දැක පහන්වූ රජතෙම උහුට සෙනෙවිරත් තනතුර දින. මේ
තෙමේම වනාහි සේනාසහිතව උතුරුදෙසට ගොස් සේනා
154 සහිතවූ ඒ දපුළනම් ආදිපාදයන්ද පලාපීය. එහෙයින්
දපුළතෙමේ උහු කෙරෙහි අතිශයින්ම බඩවෛර ඇති
155 විය. මහුම්මාරනම් ගම යුඩයේදී උහු දැක ඉතාක්‍රොධ
ඇතියේ තමා නැංගාවූ ඇතා උහු නසන්ට වහාම යැ
156 විය. මේ (කුමාර) තෙම ඒ ඇතා තමාගේ ඇතුලවා අන්
නවා පලාපීය——ඒ දැක ඉතා සතුටුවූයේ රාජ්‍යයෙහි
තබන්ට අන්‍යයන් නැතිහෙයින්ද උහුට තමන්ගේ යුවරජ
157 තනතුර දින. හෙතෙම මෙසේ විසිඅවුරුද්දක් මේ දිවයින
මනාකොට භුක්තිවිඳ පුණ්‍යකර්මයාගේ විපාකය විඳින්ටමෙන්
ස්වර්ගයට ගියේය.

158 මෙසේ ජනයාට දුක්වූ විරූපවූ නොයෙක් ක්‍රමවලින්
ලද්දාවූ සියලු භොගයෝ ක්ෂණයෙන් නස්නාහුය. අදෝ
මය අඥනයෝ එහිම ඇලෙති.

මෙතෙකින් හුදිජනයා ප්‍රසාදසංවේග පිණිසකළ මහවස
ජරාජකනම්වූ අටසාළිස්වෙනි අදියර නිමි.

# 49 වෙනි පරිච්ඡේදය.

---

1 පියරජහුගේ ඇවෑමෙන් සතුරන්ටද මිතුරන්ටද නිග්‍රහ
සඞ්ග්‍රහ කරනට සමර්ථවූ ඒ (දප්පුළනම්) උපරජතෙම
2 රජවී. ඒ රජහුගේ ප්‍රඥාසහිතවූ සේනානම්වූ මෙහෙසි
යක්වී. කුඩා පුතෙක් ඇත්තාවූ යහපත් දර්ශනඇති ඕ
3 තොමෝ රජහට ඉතාම ප්‍රියවී. තමා දෙවුපිත්හට යුව
රජ තනතුර දීන අනෘවූ ආදිපාදයා කෙරෙහි දූන් මෙහෙ
සියන් කෙළේය.

4 රජතෙම ඔවුනොවුන්ට සුදුසුසේ තනතුරුදී ජනයා
5 චතුස්සඞ්ග්‍රහ වස්තුවෙන්ම චිත්තාරාධනා කෙළේය——ඉක්
බිත්තෙන් හෙතෙම කිසියම් හෙයකින් මින්නේරියට ගොස්
6 වසන්නේ වනාහි පසල්රට කිපුනේයයි ඇසී. එහෙයින්
සෙනෙවියාද තමා දෙවුපිත්ද ගොස් "ඒ දෙසය සන්සිඳුවා
7 සදව්" කියා වහා යැවීය. ඔවුන් එහි ගියකල්හි භෙද සිත්
ඇත්තාවූ කේලාම්මු යම්කිසිවක් කියා නරනිඳු කෙරෙහි
8 ඒ දෙදෙන භෙදකරවූහ. එහෙයින් ඒ දෙදෙන සතුරුව
දෙසය ගන්ට ආරම්භකළෝ. රජතෙම ඒ අසා ක්ෂණ
9 යෙන්ම දූරතිස්සනම් වැවලඟට පැමිනියේය. ඒ දෙදෙන
එතැනදී මරවා ඔවුන්ගේ සියලුම ධනය ගෙණ ඔවුන්ගේ
පක්ෂයෙහි පවත්නාවූ සියල්ලන් මරා පොළොන්නරුවට
ගියේය.

10 එකල්හි රුහුණුරට භොගාධිපතිවූ දාඨාසිවනම් ආදිපාද
යන්ගේ පුත්‍රවූ මහින්දනම් ක්ෂත්‍රියයෙක් විය. හෙතෙම පියාට
11 විරුඬව රජුකරා ආයේය. උහු දැක සතුටුවූ රජතෙමේද
12 උහු සතුටු කෙළේය. උහු සමග මිත්‍රභාවය ස්ථිරකරණු
13 පිණිස ඒ රජතෙම දේවානම්වූ දුවද සේනාවක්ද උහුට
දී රුහුණටම යැවී. හෙතෙම රාජ සේනාව සමග ගොස්
14 රුහුණ මඩිනකරවා පියහු දඹදිවට නෙරපා රුහුණ ලද්
දේය. (ඒ රජතෙම) මහා විහාරයෙහි යහපත්වූ ලඟබත්
ගෙයක් ස්ථිරකොට කරවී. කොලඹක්ඛියනම් පිළිමවහන්
15 සේට පෙරහර පිණිස මහාමහනම් ගමක් දුන්නේය.
ශක්තිවූ පරිද්දෙන් පූද වර්ධමානනම්වූ බොධිවෘක්ෂරාජ
16 යාගේ දිරූගෙයද කරවී——රක්ෂාකරණ පිණිස බොහෝ

අය උපදනා කොටුගම ඒ බොධියට දුන්නේය. නිලාරාම
17 විහාරයට කාළුඃසනම් ගම දීන, ලෝපිළිමයට ආරාමඃස
18 නම් ගම දීන. ඕරු (විහාරද) පියවි කෙළේය. පිළිමද
කරවූයේය. ප්‍රාසාදයන්ද චෛත්‍යයන්ද බොහෝ
විහාරයන්ද (කරවිය) මහත්වූ කරුණා ඇත්තාවූ ඒ රජ
19 තෙම පොළොන්නරුවෙහි වෛද්‍යශාලාවක් කරවිය.
පඩාවියෙහිද එසේම භොග උපදනා ගමින් යුක්තකොට
(වෛද්‍යශාලාවක් කරවිය) කුදුන්ටද අන්ධයන්ටද ඒ ඒ
තන්හි ශාලාවන්ද (කරවිය.)

20 හෙතෙම මනාකොට විනිශ්චයකරණලද යුක්තීන් පොත්
හි ලියවා නැවත අනාගතකලහ භයකරණකොට ගෙණ
21 රජගෙහි තැබ්බවී, පුරාණ ලියුම් නොවලක්වා පූර්‍ව
ශාසනය රක්‍ෂාකොට නාවඩුන්නානම් වෙහෙරට බොහෝ
22 භොග ගම් දීන. පියරජහුවිසින් මහදන්හා අනිකුදු (යම්
යම්) පිණකුත් කරණලද්දේද ඒ සියල්ල නොනසා හෙතෙම
ආදර සහිතව රැක්කේය. මහරජහුගේ මෙහෙසීතො
23 මෝද බොහෝවූ පින් කරවී. දේවීතොමෝ සෑගිරියෙහි
24 කටු සෑය කළාය. ඕතොමෝ ජයසේනනම් පර්‍වත විහාරයද
කරවා ගම්වැසි භික්‍ෂුසඞ්ඝයාට දුන්නිය. ඒ විහාරයට
ඕතොමෝ මහුම්මාරනම් ගමදුන්නිය. මෙහෙණින්
25 නන්ට සලමේනම් අසපුවක් කරවා සලමේ අසපුවෙහි මෙ
26 හෙණින්නන්ට පසය දුන්නිය. ඒ විහාරයෙහි පෙර යම්යම්
ගමක් විකුණන ලද්දාහුද ඕතොමෝ වසතුදී ඒ ගම් මුදවා
27 වෙහෙරටම දෙවී—සෑගිරියෙහි සියලු මහරුක් අතු
28 කප්පවා නොයෙක් වර්‍ණඇති ධජපතාකයෙන් පිදී. පූර්‍වා
රාමභාගයෙහි පහය පියවි කෙළේය. ඊට අයිතිවූ හීන
29 භොගඇති උඝානවිටසීනම් ගම භොග සමෘඩ කරවී.
නටුවාවූ ගිරිභණ්ඩනම් වෙහෙර පියවි කෙළේය. එහි වැසි
භික්‍ෂූන්ට භොග උපදනා ගම්ද දෙවී.

30 අඹඋයනෙහි දප්පුළපබ්බතනම් ආවාසයකොට සිව්පසින්
සමෘඩකොට තුන්සියයක් භික්‍ෂූන්ට දීන.

31 හෙතෙම සිත්කළුවූ නිල්ගල අරම කරවා බොහෝ පසය
32 උපදනා ජලාවරණයක් කරවා ඒ ආරාමයට දෙවී. අරිකාරි
නම් වෙහෙරෙහිද ඕරුතැන් පියවිකෙළේ පෙර නොති
33 බුනාවූ ලහබත්ගෙයක්කොට පහයක් කරවි. හෙතෙම
වහදුවෙහි සෙනගගබොධිනම් සෑයක් කරවී. බහුශ්‍රුතවූයේ
34 තුන්නිකායෙහි දහම් දෙස්වී භික්‍ෂූන්ට යහපත්කොට වට
කරණලද යකඩපාත්‍රයන් පිළිගැන්වී හෙතෙම පින්යයි

35 කියනලද සියල්ලෙන් කිසිවක් නොහැර කෙළේය, අනා
ථවූ කුලවත්සත්‍රීන්ට පලඳනා දීන, බොජුන් කැමතිවූවන්ට
36 බොහෝසේ රාත්‍රියෙහි බොජුන් දීන, ගවයන්ට ගොයම්
දීන. කවුඩු ආදීන්ට බත්දීන, ළදරුවන්ට මී සකුරු යුත්
37 සහල් දීන· මෙසේ පිරිස් සහිතවූ ඒ රජතෙම පින්කෙරෙ
මින් පස්වසක් රාජ්‍යය අනුභවකොට පරිත්‍යාග කෙළේය.

38 උන්නු ඇවෑමෙන් උහුගේ පුත්‍රවූ සර්‍වාකාරගුණයෙන් යු
ක්තවූ මිහිඳුනම් ක්‍ෂත්‍රියතෙම සිංහලයන්ගේ රජවිය. ධර්‍ම්
39 සම පහන්කොටඇති ධර්‍මයම ධජ කොටඇති ශුද්ධ ධර්‍මය
පිහිටකොටඇත්තාවූ හෙතෙම ධාර්‍ම්මික සිලාමෙඝයයි පො
ළෝතෙලෙහි පතළ විය.......පුරාතනරජදරුවන් විසින් ක
40 රණලද ධර්‍මමාර්‍ගානුගතවූ සියල්ල නොපිරිහෙලා කෙළේය.
අධර්‍මය වනාහි දුරුකෙළේය· ඒ රජතෙම රුවන්පහයෙහි
41 නවකම්කරණපිණිස ගෙඩුම්බනම්වූ ජලමාතිකාව හැමක
ල්හි දෙවි ජරාවට පැමිනි (චෛත්‍ය) ස්ථානද පියවි කෙළේය,
42 පින්කම්ද කෙළේය, සිවුවසෙක්හි රජකොට පරලොව ගි
යේය.

43 ඒ රජු ඇවෑමෙන් අග්‍රබොධිරජතෙම හැමසත්‍වයන්ට නිර
වශෙෂවසයෙන් හිත සුව සිදුකරවමින් පුරයෙහි සත් නැගු
44 යේය.......හෙතෙම ශාස්තෘන්වහන්සේගේ සියලු ගුණය
න්ට සුදුසුවූ ධාතුපූජාවක්ද මුත්තනුවන්විසින් කරණලද්දාවූ
45 බුද්ධප්‍රතිමාවට මහා පූජාවක්ද කරවී. ඒ රජතෙම පියානන්
හා තමන් නමගෙණ උදුඅග්බෝනම්වූ පිරිවෙණක් කරවී.
46 භූතනම්ඇත්තාවූ භොග සහිතවූ ඒ පිරිවෙණ කොට ස්ථවිරී
යාචායර්‍යයන්ටද භික්‍ෂූන් තුන්සියයකටද දීන. (ඒ) රජතෙම
47 සුළුවැව්නම්වූ ගම ධර්‍මශාලාවට දෙවී. කාළුළය මලලවාතය
48 යන ගම් දෙකක්ද දෙවී. හෙතෙම පෝහොදවස්වල මත්ස්‍ය
මාංස සුරා ආදීන් තමන්ගේ ඇතුළු නුවරට ගෙණඒම වැළැ
49 ක්විය. හෙතෙම භික්‍ෂූන්හෝ චෛත්‍යයන්හෝ වැඳ එතැ
නින් නික්මෙන්නේ වැලිනැතිනොවෙත්වයි සිතා පාදයන්
මනාකොට ධොවනය කෙළේය. සග සැප එලවන්නාවූ යම්
50 යම් කර්‍මයක්වේද නිවන් එලවන්නාවූ යම් කර්‍මයකුත් වේද
තුණුරුවන් කෙරෙහි පහන්වූ හෙතෙම ඒකර්‍මසියල්ල කෙ
ළේය.

51 හෙතෙම දිවා රෑ මැනියන්ට උපස්ථානකිරීමෙහි ඇ
ළුනේවිය. උදෑසනම රජතෙම මැනියන් උපස්ථානයට
52 ගොස් හිස තෙල්ගා ඇඟ දූලිආදිය උලා නිය ශුද්ධකොට
ආදර සහිතව නාවා සුව පහස් ඇති අළුත් වත් තමාම

53 සඳවා හළවනගෙණ තමන්ම (සෝදා) මිරිකා ඒ වස්ත්‍රයේ
54 ජලයෙන් ඔටුනු සහිත තමාහිස තෙමා ඒ මැනියන් සුවඳ
55 මලින් චෛත්‍යයක් මෙන් පුදා ඇය ප්‍රදක්ෂිණ කොට
තුන්වරක් වැඳ ඇයගේ පිරිසට වස්ත්‍රාදියෙන් රුචිවූ දෙය
56 දී මාහැඟිවූ බොජුන් සියතින් වළඳවා වළඳා ඉතිරිවූ දෙය
අනුභවකොට හිසෙහිද විසුරුවාගෙණ ඒබිසවුන්ගේ පිරිස
57 ටද උතුම්වූ රාජභොජනය අනුභව කරවා වාසයකරණ
58 ගෙයද සුවඳ කවා සජ්ජිතකොට එහි යහනක් මනාකොට
සියතින් පණවා පාදයන් සෝදා සිනිඳුකොට සුවඳ
59 තෙල් ගල්වා මිරිකමින්හිඳ ඇය නිද්‍රාවට පමුනුවා ඇඳ
60 පැදකුණුකොට මොනවට තුන්වරක්වැඳ දසුන්ද කම්කරු
වන්ද ආරක්ෂාකාරයන්සේ නියෝගකොට ඇයදෙසට පිටු
61 නොපා පිටිපසින්ම ඉවත්ව නොපෙණෙන තන්හි සිට
62 නැවත තුන්වරක් වැඳ ඒ කර්මයෙන් සතුටුව එය නැවත
නැවත සිහිකෙරෙමින් ගෙටයේ—දිවිසහිතවූ ඒබිසවට
63 මෙපරිද්දෙන් උපස්ථාන කෙළේය.

එක් කලෙක තමාදසෙකුට දූසවාදයෙන් බැණ උහුලවා
64 තමාට කමාකරණුපිණිස තෙමේ වචන කියවී. මැනියන්
ලවා තමා භික්ෂුසඞ්ඝයාට දෙවා තමා අගණ දනයදී නුව
නැත්තේ නිදහස් විය. මෙසේපිණෙහි ඇළුනේවූ දිවසිනට
65 සඟ්‍රහකොට එකොළොස් වසකින් දෙව්ලොවට ගියේයි.

ඉක්බිත්තෙන් උහු ඇවෑමෙන් උහු මල්වූ දප්පුළතෙම
රජවී. ඒ තෙම පුරාතනරජුන්ගේ සියලු සිරිත් පැවැත්වී.
66 එකල්හි මිහිඳුනම්වූ රුහුණ හිමියාගේ පුත්‍රයෝ පියා
67 විසින් බැහැරකරණ ලද්දෝ සියමසිල්වූ රජහු වෙත පැමි
ණියහ. ඒ තෙමේ ඔවුන් දැක එපවත් අසා මහාසේනා
68 වක් දී නෑයන් වැඩෙහි ඇළුනේ පියා සමග යුදකරන්ට
69 යැවී. රුහුණ අධිපතිවූ මිහිඳුතෙමේද එසේ බැව් දැන
මහාසේනා ඇත්තේ ඔවුන්ට පළමුවෙන්ම යුද කෙළේය.
70 සේනාවට නායකයෙක් පමුනුවා ඒ දෙදෙනාම පලාගියාහු
නැවත අවුත් මිහිපල්හු සේවනය කරමින් මෙහි විසූහ.
පියතෙමේද ඉන් සතුටුවූයේ අනික් සියනෑයෙකු සමග
71 යුදකරමින් මරණ පත්විය. ඒ නෑතෙමේද මෙළේය.

එකල්හි රජතෙම කිතු අග්බෝනම්වූ බෑනාට සියලු රූප
72 ගුණයෙන් යුත් දෙවානම්වූ දුව දුන්නේය. ඒ (කිතුඅග්බෝ)
තෙම ඒ රජහු සෙවුම්පිණිස දප්පුළ (නම්මළනුවන්)
තබා තමන් සෙනග ගෙණ රුහුණු ගියේය. රුහුණට
73 අධිපතිව සත්කාරයෙන් පිණගියේ පුතුන් දූන්ගෙන් වැඩෙ
මින් එහිම වාසයකෙළේය.

74 ඒරජතෙමේ දිරුවාවූ මහබෝගෙය තහවුරුකොට නවක
ම් කෙළේය. රණින් නිමවූ කම්කෙළේය. හෙතෙම ඒ බෝධි
75 මන්දිරයට මඟුල්‍යයෙන්ද යුක්තවූ තමන්රජබවටද ශාස්තෘන්
වහන්සේගේ පාරමිතාවටද සුදුසුවූ කම් මොනවටකොට
76 මහත් පූජාවක් පැවැත්විය. ඇත්කුස්වෙහෙර දිරූපඝය
77 අළුත් කරවී. වහදිවසින පර්වතය ලාවනම් අරමක්කොට
කරවී. ජේතවන වෙහෙරෙහිද රන්මුවා පිළිමයක්කොට
78 බොධිමන්දිරයෙහි පිහිටුවා නොසිතිය හැකිවූ පූජා කෙ
ළේයි— ලක්දිව අවුරුද්දක්පාසා වස්ත්‍රදානයක් පැවැත්වී.
මහාපාළිනම් දන්සලද වැඩිකෙළේ. දානසාලාවද පස සැ
79 පසීමෙන්බැලී. තුලාභාරවසයෙන් දානයක්දදෙවී. ජීර්ණ
ස්ථානද පිළියම් කරවී. පෙර රජකළ රජුන් නිවරදවූ
සිරිත් පාලනය කෙළේය.

80 උහුගේ වජිරනම් මහනුවනැති සෙනෙවියෙක් විය. හෙ
තෙමේ පාංශුකූලික භික්ෂූන්ට කච්ඡවාලනම් අරමක්
81 කරවී— ථූපාරාමයෙහි වටදාගෙය රන්උළින් මනාකොට
82 සෙවෙනි කරවී. ස්වර්ණමය චාරයන්ද සම්පාදනය කරවී.
මෙසේ ඒ (අක්බොරජතෙම) සොළොස් වසක් රජකොට
සියලුසත්වයන්විසින් යායුතුවූ දෙසයට ගියේය.

83 ඒ රජ දෙව්ලොව පැමිනිකල්හි අග්බෝයන සියනම්
ඇත්තෙක් එකල්හි විය. හෙතෙම ඉක්බිත්තෙන් අණ
84 බෙර හැසිරවී. උහුගේ පියතෙම සිය සොහොයුරුහුගේ
මහින්දනම්වූ පුත්‍රයා සියපුතුන්ට රජයපත්කරණු පිණිස
85 ඇපා නොකරවී. ඒ මහින්දතෙම සියනෑයන්ටද මල් සො
හොයුරන්ටද සඞ්ග්‍රහ කරණු නොහැක්කේ ව්‍යාකූලව
86 පරතෙරට පලාගියේය— (අග්බොරජතෙම) ඔවුන් එනු
අසා මහසෙනගක් යවා ඔවුන්සමග යුදකරවා ඔවුන් හිස්
87 ග්‍රහණය කරවී. හෙතෙම නිකායන්හි කටයුතුසියල්ලම
විචාරණය කරවා මුළුදිවයිනෙහිම පව් සිරිත් වැලක්විම
88 කරවී. එකල්හි සුළුවෙහෙරවල භික්ෂූහු සැමකල්හිම මහ
වෙහෙරකැඳ පිළිගණිති. ඒ අසා කලකිරුණු සිත්ඇති රජ
89 තෙම කණ්ඨපිට්ඨිනම් මහගමද එසේම යාබාලනම් සුළු
ගමද බොහෝ අයඋපදනා තෙල්ගමද ජලමාතිකාවක්ද
90 දෙවා (ඒ ඒ) විහාරයන්හි කැඳපිළිගන්නට යෙදී. එතැන්
පටන් සියලු භික්ෂූහු ආදර සහිතවම ඒ කැඳපිළිගත්හු. ඒ
91 තෙම ලක්දිව බෙරහසුරුවා යදියන් රැස්කරවා කැමති
පරිද්දෙන් තුන්දිනක් රන්දෙවී.

92 මේ ආදිවූ පින්කම් තුන්වසකින්ද මොනවටකොට තුණු රුවන්කෙරෙහි තමන් පිළිබඳවූ ප්‍රසාදයාගේ ඵලය දිව්‍ය ඥානයෙන් බලනපිණිස යන්නාක්මෙන් ඒ රජතෙම මෙළේය.

93 සියලු සත්ත්වයෝ ඒකාන්තයෙන් මෙසේ අනිත්‍යයහ, සර්‍වඥ වරයො පවා මරණ පැමිනෙත්; එහෙයින් සසර ඇළුම්සිත් පහකොට පණ්ඩිතතෙම නිවණෙහි යහපත් නුවනැති වන්නේය.

මෙතෙකින් සුදිජනයාප්‍රසාදසංවේගපිණිස කළ මහ වස පචරාජකනම්වූ එකුන්පණස්වන අදියර නිමි.

---

# 50 වෙනි පරිච්ඡෙදය.

---

1 ඒ රජු ඇවෑමෙන් උහුගේ මල්වූ මහදනැති සේනනම් කුමරතෙම සියලු සත්වයන් පිය පුතෙකුසේ බලන්නේ පුර
2 යෙහි සත් එසවි——පෙර රජදරුවන්ගේ සිරිත් ගෙණ
3 පරිද්දෙන් මනාකොට පැවැත්විය. දැහැමින්යුක්තවූ අපූර්වූ චාරිත්‍රද පැවැත්වී. භික්ෂූන්ටද භික්ෂූණීන්ටද නෑයන්ටද
4 ලක්දිව් වැසසන්ටද මසුන්ටද මෘගපක්ෂීන්ටද කටයුතු සියල්ල පැවැත්වී, හෙතෙම පරතෙරට ගියාවූ මිහිඳු කුමර (චරපුරුෂයන්) යොදා මැරවී.
5 මෙසේ හෙතෙම රජයට සතුරු සියල්ලන් මොනවට
6 ශුද්ධකෙළේය. දන සොයන යදියන්ට මහදන් පැවත්වී. යතීන්ටද බමුණන්ටද මන පිණවන රජබොජුන් දෙවී.
7 මිහිඳුය කසුප්ය උදයයි උහුගේ මලුන් තුන්දෙනෙක්වූහ. ඔවුන් අතුරෙන් මිහිඳුතෙමේ යුවරජව උහු අනුව පවත්
8 නේ සකස්කොට උහුට උවටන් කෙළේය. රජහට මෙහෙ
9 සීවූ සඞ්ඝානම් බිරිඳක් විය——මුහුදු කෙළිපිණිස රජු පටුනට ගිය කල්හි ඒ උදයනම් ඈපාතෙමේ පුරයෙහි නැ
10 වැත්තේය. එකල්හි රජරක්ෂණයෙන් රක්නාලද නාලනම් නැන්දනියන් දුව ගෙණ පොළොන්නරුවට ගියේය. රජ
11 තෙම උහු කෙරෙහි නොකිපී කිපිය නොහැකිවූ සම්බන්ධයක් කොට මා ඈ පානත් යවා උහු සතුටු කරවා මෙහි ගෙන්

12 විය. මෙසේ ඔව්හු සමගිවූහ. එතැන්පටන් ඒ ක්ෂත්‍රිය
යෝ අතිසයින් සන්සුන්ව සස්නද ලොවද රකිමින් විසූහ.
13 ඉන්පසු කිසියම් කලෙක මහාසේනා ඇති පඬිරජතෙම
දඹදිවින් මෙහි අවුත් දිවයින ගන්ට පටන්ගත. රජතෙම
ඒ අසා උහුලගට මහාසේනාවක් යැවී. ඇමතියන්ගේ විවා
දයෙන් රජතෙම ලද අවකාශ ඇතිවී.
14 පඬිරජතෙම ඒ සියලු උතුරුදෙස වනසමින් මහාතලිත
15 නම් ගමෙහි කඳවුරු බැන්දේය. එහි ඒ ඒ තැන යම්
තාක් දෙමළු වෙසෙද්ද බොහෝවූ ඒ සියල්ලෝ උහුට
16 පක්ෂවූහ. එහෙයින් හෙතෙම බලවත් වී—— මහා
සේනාතොමෝ එහි ගොස් රජහු හා යුදකරණට පටන්
17 ගත. ඇත්කඳ මත්තට පැමිනි පඬිරජතෙමේද (ෘදට)
වන. ඒ ද්‍රාවිඩීසෙනාතොමෝ හිමියාගේ මුහුන බලන්නී
උහුගේ ප්‍රයෝජනයෙහි පරිත්‍යාගකරණලද ජීවිත ඇත්තී
සම්පන්නවූ බලවත් උත්සාහ ඇතිවීය.
18 ලක්දිව සේනාතොමෝ හිමියන් නැතිබැවින් උත්සාහ
රහිතවැ යුදකරන්නී බිඳී ඒ ඒ දිග පලාගියහ. එ
19 කෙණෙහි පඬිරජහුගේ මහාසේනාතොමෝ මරසෙනග
මෙන් මහජනයා වෙසෙසින් සුණුකෙරෙමින් යන්නී පැතිර
20 ගියාය. රජතෙම සේනාව බුන්බැව් අසා සියලු හස්තසාර
වස්තුගෙණ පුරය හැර මලය රට බලා ගියේය.
21 ඉක්බිති මිහිඳුනම් යුවරජතෙම ඇතුනැගී යුදකෙරෙමින්
22 සියසේනාව පලාගිය බැව්දැක "එකාන්තයෙන්ම හුදකලාවූ
මා විසින් මේසියල්ලන් මරණු නොහැකෙක්ය මේ නිචයන්
23 අත මැරීම සැපනොවෙයි එහෙයින් මාවිසින්ම මාගේ මරණ
ය උතුමැ"යි සිතා ඇත්කඳ මත්තේ හුන්නාවූ හෙතෙම තමා
24 හිස කපාගත්තේය. ඒ දැක එහිදී බොහෝවූ සේවකයෝ හිස්
කපාගත්හු. ඒ දැක ඒ දෙමළ සේනාතොමෝ තුටුපහටුව ස
25 තොස්වී—— ඒ කසුප් ඈපාතෙම මේ සියල්ල දැක, උතුම් අ
සෙකුපිට නැගී යහපත්සේ සන්නද්ධව ආයුධගත් අත්ඇතිව
26 අබාගිරිවෙහෙරට පැමින හුදකලාවූ හෙතෙමේම එබඳුවූ
27 මහ සේනාවට වැද ගුරුළෙක් සයුරෙන් නයින් ගන්නාසේ
(සතුරන් ගණිමින්) හෙද කෙළේය. ඒ තෙමේ ඒ (සතුරන්
28 පිළිබඳ) සියල්ල වැලක්වී තැනුත් මනාකොට ආරක්ෂා
කෙළේය. එකම අස්තෙම අස්පෙළක්මෙන් පෙණීන.
29 හෙතෙම තමන්ගේ පස්සේඑන කිසි ජනයෙක් නොදක්නේ
"එකම මාවිසින් සතුරන්ගේ අභිමතය පිරීමෙන් කිමෙක්ද
30 ජීවත්වනනාවූ මම අන්කලෙක්හි මාගේ අභිමතය පූරවන්

නෙමි-----එහෙයින් යන්ටම යුතුය " යි සිතා මහා සේනාව
31 විසුරුවා හැර බියරහිතද්‍ුයේම මහායෝධවූ ඒතෙමේ කොඩි
වායට ගියේය. එහෙයින් පඬිරජහුගේ මහාසේනාතොමෝ
32 පුරය ගත්තීය. ඒ යුවරජහුගේ හිස පඬිරජහට දැක්වූහ. හෙ
තෙම ඒ දැකම දවා පඬිරට රජුන්ගේ ආදාහනයෙහි සියලු
33 කටයුතු උහුට කරණට නියෝග කෙළේය. රජහුගේ භා
ණ්ඩාගාරයෙහි තුබූ සියලු සාරය ගෙන්වා ගත්තේ විහාර
34 යෙහිද නුවරද ගතයුතුදෙය ගත්තේය. පහයෙහි සියලු
35 රුවන්ද ස්වර්ණමය බුඩප්‍රතිමාවද ගල්පිළිමයෙහි නෙත්වූ
36 මැණික්දෙකද එසේම ථූපාරාමචෛත්‍යයෙහි රන්පටද ඒ
ඒ වෙහෙරවල රන්පිළිමද යන සියල්ලගෙණ හෙතෙම
ලක්දිව නිසරු කෙළේය. සිත්කළුවූ පුරය යකුන් අනුභව
කළ අයුරුකොට හැරියේය.

37 රජතෙමේද මහමග ඒ ඒ තන්හි රුකවල්දී සැකඇතිව
38 දෙගංමුව වාසයකෙළේයි. ඉන්පසු පඬිරජතෙම සිංහල
රජහු සමග මිතුරුබැව් කැමැතෙන් ඇමතියන් එහියැව්.
ඒ සිංහලාධිපතිතෙම ඔවුන් දැක ඔවුන්ගේ අස්න අසා ඒ
39 සියල්ල පිළිගෙණ කැමතිසේ දූතයන්ට සඟ්‍රහකොට ඇතුන්
40 දෙදෙනක්ද සියලු ආභරණද දී තමහටද වැඩකැමැත්
තාවූ තෙමේ උහුවෙත දූතයන් යැවීය. පඬිරජ තෙමේද ඒ
41 සියල්ල දැක සතුටු සිත්ඇතිවිය. එදවසම මහ පුරය දූත
42 යන්ට පාවාදී නුවරින් නික්ම නොබෝකලකින්ම පටුනට
ගොස් එහිදී නැව්නැගී හෙතෙම සියදෙසට ගියේය. ඉන්
43 පසු සිලාමේඝනම්* රජතෙම නුවරට අවුත් ලඞ්කාවිපය යථා
ස්ථානයෙහි පිහිටුවා එකගව වාසය කෙළේය.

44 දෙවෙනි සොහොයුරුවූ උදයනම් ක්‍ෂත්‍රියයන් මාපා
45 කොට උහුට භොගපිණ්ස දකුණුදෙස දීන. හේතෙමේද
නොබෝ කලකින්ම සුදුසුපරිද්දෙන් පින්කොට එක් රෙ
ගයකින් සපඤ්කරණ ලද්දේ මරුමුවට ගියේය-----කසුප්
46 නම් ඈපාතෙමේද පොළොන්නරුවෙහි වෙසෙමින් පඬි
47 රජුහා සමග යුදකරන්නේ මරණ ලද්දේය. එකල්හි
කසුප්නම් ආදිපාදයන්ගේ මහාසීවූ පින්ලකුණෙන් යුත්
48 පුත්තු සතරදෙනෙක් වූහ. ඔවුන් අතුරෙන් සියල්ලන්ට
පළමුවෙනිවූ සේනනම් යම් කුමරෙක් වීද හෙතෙම ශූර

---

* ඉසෙන නම්න්ද කියන ලදී.

වීරවූ මහෝත්සාහ ඇති රාජ්‍යභාරය දැරීමෙහි පොහො
49 සත්වූ අසමානයෙක් විය. රජතෙම මහඇපා බැව් විඩිවූ
පරිද්දෙන් උහුට දී භොග පිණිස වාහන සහිතවූ දකුණු
දෙස දින.

50 රුහුණට අධිපතිවූ කිතුඅග්බෝ කුමරහුගේ පුත්තු සතර
දෙනෙක් වූහ. දැකුම්කටයුතුවූ මනපිනවන්නාවූ දූන් තුන්
දෙනෙක්ද වූහ. එකල්හි උහුගේ දෙටු පිත්වූ මිහිඳුකුමරහු
51 උහු නැන්දනිතොමෝ මරවා උහුගේ උපකරණසහිතවූ
දෙසය ගත්තීය. ඒ සහෝදරයෝ තුන්දෙන ඒ සොහොයුරා
52 මැරීමෙහි රොස්වූවෝ සහෝදරියන් තුන්දෙන රැගෙණ
53 රජු කරා ආවෝය. රජතෙමේද ඔවුන් දැක කරුණාබහු
ලවැ ආදරකරමින් ප්‍රෙමඇතිව ඒ සියල්ලන් දෙව් කුමරු
වන් සෙයින් සැපසේ වැඩීය.

54 ඉක්බිති ඒ රජතෙම ඔවුන්අතුරෙන් වැඩිමහල් කසුප්
55 කුමර "ඒ දෙස ගණුව යව" යි සේනාව දී යැවී. හේතෙමේද
ගොස් ඇය මරා සියලුම රුහුණ අත්පත්කොට එහි උවදුරු
රහිතව විසීය.

56 ඉක්බිත්තෙන් හෙතෙම සේන උදය යන සොහොයුරන්
දෙදෙනාද කැඳවා දෙසය බෙදාදී ඔවුන් සමග විසුයේය. රජ
57 තෙම ඒ කුමරියන් මනාකොට වඩා දිවසරන්බඳු මනා රූ
ඇති පින්ඇති යොවුන්පත් රජ කුමරියන් තුන්දෙනාඅතු
58 රෙන් සඞ්ඝානම්වූ කුමරිය රැජන තන්හි තබා රජය සමවූ
59 මහාභොග දී උපරජහට දෙවී——බාල සොහොයුරුවූ
සියල් ගුණෙන් යුත් සියල් සතරෙහි විසාරදවූ යුවරජවූ
60 මිහිඳුනම් ක්‍ෂත්‍රියයෙක්ද ඇත. රජතෙම ඕහට රිසිසේ
භොග දානය කොට තිස්සානම්වූද කිත්තිනම්වූද සිත්කළුවූ
රජකුමරියන් දෙදෙන දුන්නේය.

61 ඒ රජතෙම මෙසේ නෑයන්ට සුදුසුසේ සඞ්ග්‍රහ කරමින් දා
නාදී සඞ්ග්‍රහයෙන් මහජනයාද සතුටු කරමින් රජුන්ට අයත්
62 දසදහමින් යෙදුනේ පින් රැස්කරමින් රට පරිභොග කෙ
63 ළේය. අරිට්ඨ පව්වෙහි පාංශුකූලික භික්‍ෂූන්ට සෑඩියෙන්
මවන ලද්දක්මෙන් මහා භොගයුක්තවූ ආරාමයක් කොට
64 දින. ඒ අරමට නිරවශෙෂ වසයෙන් රාජයොග්‍යවූ පෙර
හරද බොහෝවූ දස්කම්කරුආරාමිකයන්ද දින.

65 බුදුබව කරාගිය සිත්ඇත්තාවූ ඒ මිහිසුරුතෙම ජෙත
66 වනනම් වෙහෙර නොයෙක් මහල්ඇති පහය කරවී——
සර්වස්වර්ණමයවූ ජිනපිළිමයක් කරවා එහි වඩා හිඳුවා
67 මහා භොග පිහිටුවා එහි භික්‍ෂූන් වැසවී. එම වෙහෙර මහ

පිරිවෙණෙහි ගින්නෙන් දනලද පහය අභිසයින් මන
68 රම් කොට කරවී. අභයුත්තරනම් වෙහෙර වීරඞ්කුරනම්
ආරාමයක්කොට මහාසඞ්ඝික පරම්පරාවේ භික්ෂූන්ටද මහ
69 වෙහෙර වැසි භික්ෂූන්ටද දෙවී.—හෙතෙම සඞ්ඝානම්වූ
තමන් බිසවත් සමග පූර්වාරාමයද සිවුපස සම්පන්නකොට
70 කරවී. මහා නුවනැති මිහිපල්තෙම ඒ බිසව සමග මහ
වෙහෙර මහා භොගයුක්තවූ සඞ්ඝසෙනනම් ආවාසය කරවී.

71 උතුම් රජතෙම සියල්ල රන්මුවාකොට කෙස්දා කරඬු
වක් කරවා මහපූද පැවැත්වූයේ රජයද පරිත්‍යාගකෙළේය.
72 සැගිරියට බොහෝ අය උපදනා කණවැව දීන. ලක්දිව්
73 වැසිවූ සමණන්ට තුන්සිව්රු දීන. පොළොන්නරුවෙහි
තුසාවැවෙන් වැව් කෙළේය, ග්‍රාමාරාමිකයන්ගෙන් යුක්ත
කොට සෙන් අග්බෝනම් ආවාසය (කරවී.) එහිම මහාපාළි
74 නම් දන්හල මනාබොජුන් ඇතිකරවූයේය, මානෙත්පව්
වෙහි සියලු භික්ෂූන්ට මහාපාළිනම් දන්හලක් (කරවී); නුව
75 රට බටහිරදිග වෙදහලක්ද කරවී. අනාථජනයන්ට කැ
76 විලිසහිත කැඳ දනක් පැවැත්වී. උත්තමතෙම පාංශුකූ
ලාඞ්ගධර භික්ෂූන්ට වෙන්වසයෙන් මුළුතැන් ගෙයක්කොට
සතතයෙන් සකස්කොට බොජුන්දෙවී.

77 මේතෙමේ මහා ඇපාවූ (කල) කපුරුපිරිවෙණෙහිද උත්ත
78 රාළහ විහාරයෙහිද තමන් නම් ඇති කොටස්කරවී. මහා
ධනඇති ඒ රජතෙම තුන්වරක් තුලාභාරදෙවී. ඒ රජ
79 තෙමේ අනිකුදු නානාවිධවූ පින්කම්ද කෙළේය. ඒ රජ
හුගේ සඞ්ඝානම්වූ මෙහෙසීතොමෝද උතුරුවෙහෙර මිහිඳු
80 සෙන්නම්වූ ආවාසයක් කොට භික්ෂූන් වැසවී.

නුවනැත්තාවූ දප්පුළනම් රජහුගේ කාලයෙහි මහා
දේවනම් ඇමතියාවිසින් ඒ රම්‍යවූ දප්පුළපර්වතනම් වෙහෙර
පටන්ගන්නා ලද්දේය. දූරුකසුප්නම් ඇමතියා විසින්
81 කාශ්‍යපරාජකනම් වෙහෙර එසේම (පටන්ගන්නාලද්දේය)
අඩාලකරණලද්දාවූ ඒ දෙකම ඒ රජතෙමේ නිමවිය.
82 උහුගේ භද්‍රනම් සේනාපතිතෙම මහත්වූ භොග යුක්ත
භද්‍රසේනාපතිනම් පිරිවෙණද දසුන්හා භොග යුක්තකොට
කරවී. උතුරුනම් ඇමති තෙමේද අබාතුරුනම් වෙහෙර
83 අධිකවූ පසඇති සිත්කළුවූ උතුරුසෙන්නම් ආවාසය කෙ
ළේය. එහිම විදුරුනම් ඇමතිතෙමේද විදුරුසෙන්නම්
84 ආවාසය කෙළේය. රකුස්නම් ඇමතිතෙමේද රකුස්නම්
ආවාසය කෙළේය.

85 ඉන්පසු පොළොන්නරුවෙහිවෙසෙමින් විසිහවුරුදු ඇවෑමෙන් සාරදර්ශීවූ ඒ (රජ) තෙම පඬිරජහු විසින් කරණලද
86 ක්‍රියාව සිහිකරන්නේ සූරවූ සෙන්කුමරහට අවකාස දෙන්නාසේ ලක්දිව හැරමහාපවනින් පහරණලද පහනක් මෙන් පරලොව ගියේය.
87 ජීවිතය සමගම භොගයෝ අනිත්‍යහ, පළමුකොටම නෑයෝද යහලුවෝද අනිත්‍යහ; හූදකලාවීම ඉතා දරුණුවූ මරුමුවට වන් නරනිඳුහු බලව්.

මෙතෙකින් හූදීජනයා ප්‍රසාදසංවේගපිණිස කළ මහවස එකරාජකනම්වූ පණස්වෙනි අදියර නිමි.

---

# 51 වෙනි පරිච්ඡේදය.

---

1 මෙසේ උහු මළකල්හි උහුට කටයුතු මොනවට කරවා
2 සේනනම්වූ මා ඈපාතෙමේ බලවාහන ගෙණ, නුවරට
3 අවුත් පොළෝතෙලෙහි රජවී. ආදිකල්පයෙහි රජදරුවන් සිරිත් දක්වන්නාසේ ශ්‍රද්ධාඇත්තේ මහාධනඇත්තේ නොම සූරුව දන්දෙන්නේ ආලය රහිතවූයේ සූරවූයේ යදියන් කෙරෙහි දන් දීමෙන්යෙදුනේ මහත් භොගඇත්තේ සමෘ
4 ඬවූ බලවාහන ඇත්තේ, නිර්මලවූ කීර්තියෙන්හා එසේම තෙජොගුණයෙන්ද චන්ද්‍රසූර්‍ය්‍යයන් එකතැන්පත්වීමක් මෙ
5 න් දැක්වී. නොකිලිටි ගුණයෙන් ගැවසුනේ මනාකොට සොයා දන්නාලද ගුණාගුණ ඇත්තේ පවින් එතරවූයේ සසර කලකිරුණේ සාරවූ දර්‍ශන ඇත්තේ විය.

6 උහුගේ සඞ්ඝානම්වූ යම් බිරිඳක් වීද ඒ දෙවිය පිළිවෙළින් පවත්වනලද පෙරහර දී මෙහෙසිබැව්හි අභිෂෙක
7 කෙළේය. හේතෙමේ මිහිඳුනම්වූ ප්‍රඥාඇති සියමලනුවන් ලබ්ධා දක්ෂිණභාගය දී යුවරජතන්හි අභිෂෙක කෙළේය.
8 හෙතෙමේ අන්තඃපුරයෙහි වැරද රජහු දත්කල්හි අඹු දරුවන් සමග නැගී අප්‍රසිද්ධව මලය දෙසට ගියේය. එකල
9 පනාදරජහුගේ කුමාරයන් ශ්‍රී නමහට දක්වන්නාසේ රජහුගේ සඟානම් බිසවගෙන් පුත්‍රයෙක් උපන.
10 උපන්කෙණෙහිම ලුම්බිනි වෙනෙහි උපන් සිදුහත්කුමරු දැක සුදෙවුන් මහරජු සෙයින් රජතෙමේ උහු දැක සතුටුවී.
11 ධන්‍ය පුණ්‍ය ගුණයුක්තවූ මාගේ පිත්තෙමේ මේ එක දිවයින තබා සියලුම දඹදිව රජයට සුදුසුයයි (සිතා)

12 න මදෙන දවස්හිම සර්වප්‍රකාරයෙන් පෙරගරින් යුක්තවූ යුවරජතන්හි අභිෂෙකකොට දකුණුදෙස උහුට දුන්නේය.

13 යුවරජතෙමේද මලයරට වෙසෙමින්ම (නරනිඳුහු) උපායෙන් සතුටුකොට සියසොහොයුරා විසින් අනුදන්නා ලද්

14 දේ තුන්නිකාය වැසිභික්ෂූන් සමග ආයේ රජහු දැක මෙතැන ඊම කොපය නොවියහැකි මිත්‍රත්වයක් කෙළේය.

15 ඒ යුවරජහුගේ තිස්සානම් යම් බිරිඳක්විද ඒ මෙහෙසීතොමෝ සඞ්ඝානම් දියනිය ඉපදවීය.

16 කිත්තිනම්වූ අනෳවූ යම් භාර්‍ය්‍යාවකුත් විද ඕතොමෝ වනාහි පුතුන් සතරදෙනෙක්ද එසේම එකදුවක්ද ඉපිදවී.

17 එකල්හි පණ්ඩිතවූ රජතෙමේ මෙසේවූ කල්හි මාගේමල් තෙමේ මාකෙරෙහි නිසැකවන්නේයයි මොනවට ඇමති

18 යන් සමග මනත්‍රණයකොට යුවරජහුගේ යහපත් රූ ඇති සඞ්ඝානම් දියනියන් කසුප්නම් සියපුතුට විවාහ කරවී.

19 හේතෙමේ දකුණු දෙස මෙම මලනුවන්ටම දුන්නේය. රාජපුත්‍රයාට වෙන්වසයෙන් තමන්ගේ භොගයම දුන්නේය.

20 සියලු රජය උහුගේ පරිභොගයට දෙවී. ලක්දිවට හිත එලවන්නේ හුදෙක් ලක්දිව විචාරණය තෙමේ කෙළේය.

21 පින්කම් ඇත්තාවූ ඒ දෙදෙනාගේ සංවාසයට පැමින ධනෳ පූර්ණගුණයෙන් යුක්තවූ පුතුන්හා දුවරුඋපන්හ.

22 ඒ රජතෙමේ සියලු පූජොත්සවයෙන් දළදා මහ පූජාවක්

23 කොට රුවන්නම් මහපහයට නැගී එකල්හි සුවර්ණමයවූ ප්‍රතිමාව පූර්වයෙහි පිහිටි ජධය පවා හිස්වූවා දැක කුමක්හෙයින් මෙසේවිදැයි කීයේය.

24 ඉක්බිත්තෙන් ඇමතියෝ (කියන්නෝ) "දෙවයන්වහන්ස නොදන්නාසේක්ද නරෙන්ද්‍රයානෙනි තුඹවහන්සේගේ මහ

25 පියරජහු දවස පඞ්රජතෙමේ මෙහි අවුත් මේ දිව සින වනසා ඒවයිනෙහි සියලුසාරය හැරගෙණ ගියේය" යි කීහු.

26 ඒ අසා තෙමේ පැරදුනාසේ ලජ්ජාඇත්තාවූ රජතෙමේ එදවස්හිම සේනාසඟ්‍රහයෙහි ඇමතියන් යෙදී.

27 එකල්හිම වනාහි සියරජහුවිසින් පරිභවකරණ ලද්දාවූ පඞ්රජකුමරෙක්තෙම රාජ්‍යසපිණ්ස කරණලද නිශ්චය ඇත්තේ මෙහි ආයේය.

28 රජතෙමේ උහු දැක ඉතා සතුටුවූයේ උහුට කටයුතු (සත්කාර) කරවා මාතොට පටුනට පැමින හෙතෙමේ එහි වෙ

29 සෙමින් දෙව්සෙනගක්සේ සදනලද මහත්වූ සේනා සමූහයක්ද ඊට උපකරණද අඩු නොකොට පිළියෙළකරවා " පඞ්

30 රජකුමරුහා සමගගොස් ඒ පඬිරජුමරා පෙර මෙරටින් ගෙ
31 ණයනලද්දාවූ සියලු රුවන් ගෙණ මොහුට රාජ්‍යය දී නො
බෝකලකින් එව" යි කියා මහත් ඉසුරුඇතියේ සියසෙනෙ
වියා යැවීය.

32 සෙනෙවිතෙමේද "එසේ කෙරෙමි"යි රජහට පිළිවදන් අස්
වා වැද සේනාවගෙණ එකෙණෙහිනැව්නැගී එයින් පරතෙ
33 රට පැමින පිරිවරණලදසේනාවාහනඇත්තේ පසල්රට
වනසමින් මදුරාපුරය වටකෙළේය. දොරවල් අවුරා යාම් ඡාම්
34 සූන්කෙළේ, දොරටු අටළු කොටුවල ගිනි ලැවීය. මෙසේ සිය
35 නුවරට ඇතුල්වූ සිංහලසේනාව සියල්ල පැහැර ගණිමින්
36 සෙනග නසනකල්හි එපවත් පඬිරජ අසා සියසේනාවගෙණ
37 වෙගයෙන් ඒ සේනාවකරා පැමින යුදකරණට පටන්ගත.
ඒ රජතෙම අසම්පූර්ණ සේනාඇතිබැවින් ඇත්කඳමතුයෙහි
38 උන්නේම සැරයකින් විදිනලද්දේ සියපුරය හැර පලාගියේ
අස්ථානයෙහි සියදිවි හළේය. උහුගේ භාර්‍ය්‍යාතොමෝද ඒ
හා සමග ජීවිතක්‍ෂයට ප්‍රාප්තවූවාය.

39 ඉක්බිති ඒ සිංහලසේනාතොමෝ බියරහිතව නුවරට පි
විස දෙවියෝ අසුරපුරය පැහැරගත්සේ එහි සියලුල පැහැ
40 රගත. ඉක්බිති සෙනෙවිතෙම මේ දිවයිනෙන් ගෙණයන
41 ලද්දාවූද එහි තිබුනාවූද රජගෙයි මහරු බඩු බලා, දෙස
යෙහිද නුවරද තිබුනාවූ සියලු සරුදෙය ගෙණ එහි අධිපති
42 භාවයකොට පඬිරජකුමරහු තමා වසගකෙරෙමින් ඒ රාජ්‍ය
යෙහි අභිෂෙක කොට පෙරහරද කරවා දෙසය උහුට පමු
43 නුවා ඇතුන් අසුන්හා මිනිසුන්ද රිසිසේ ගෙණ කිසිතැන
කින් බියනැත්තේ ඒ ඒ තන්හි කැමතිසේ වසන්නේ මුහුදු
44 තෙරට අවුත් එහි සැපසේ සිට විසාරදවූ හේතෙම ක්‍රීඩා
45 කරන්නාසේ නැවකට නැගී මහතොටට අවුත් මිහිපතිහු
46 වැද ඒ හස්න දන්වා ගෙණෙනලද සරුදෙය දැක්වී. රජතෙ
ම "යහපතැ" යි කියා උහුට සඟ්‍රහකොට ඉතාසතුටුවූ සේනා
47 ව සමග සියපුරයට අවුත් ජයපානය කොට විජය මගුල් පව
ත්වා යදියන්ට රිසිවූ පරිද්දෙන් මහාත්‍යාගයක් පවත්වා ආ
48 ලය රහිතවූයේ දිවයිනෙහි සරුවූ සියලුල දුකෘතිවත් කළේ
රන්මුවා පිළිමද තුබූ තුබූ තන්හි තැබ්බවී. රුවන් පහයෙහි
49 ශාස්තෘහුගේ හිස්වූ පුටුව පිරවී. රුකවරණ විදහනින් පො
50 ළෝතලය තිඹිය කෙළේය. එතැන් පටන් හෙතෙම ලඞ්කා
ද්වීපය සතුරන්විසින් වැනසිය නොහැකිකොට උතුරු කු
රු දිවයින මෙන් භොගයෙන් වැඩූයේය. පෙර රජකල්හි
51 බැගැපත්වූ දිවයින ජනයෝ මෙසයට පැමින නිවූනු ගිම්

සේ උහුකරා පැමින් නිවුනෝය. ඒ රජහට විසිවෙනි වර්‍ෂයෙහි
52 අභයගිරිවිහාරයෙහි පාංශුකූලික භික්‍ෂූහු නික්මගියහ.

53 ඒ මිහිඳුනම්වූ යුවරජතෙමේ ශාස්තෲන්වහන්සේගේ බොධිද්‍රැමරාජයාහට දැකුම් කටයුතු මනපිනවන්නාවූ රම්‍යවූ ගෙයක් කරවී.

54 එකල්හි ඒ බොංගෙය කරන්නාවූ වඩුවෝ හුණදණ්ඩෙන් උතුම් බොධිවෘක්‍ෂයාගේ ශාඛාව ප්‍රහාරලැබ බිඳෙන්නා
55 දැක "මෙතැන්හි කුමක්කටයුතුද" යි යුවරජහට සැලකළෝ.
56 හේතෙමේ ඒ බෝධිවෘක්‍ෂයා කරා එළඹ මහපූජින් පුදා "ඉදින් සර්‍වඥයන්වහන්සේ සියලු ප්‍රාණීන්ට වැඩ පිණිස උපන්නේනම් මෙහි ගෙය කිරීමෙන් අනර්‍ඝ පුණ්‍යයක්හුගේ
57 ලාභඇත්තේ වෙම්නම් යම්සේ ගෙයකරණු හැකිවේද එපරිද්දෙන් ශාඛාතොමෝ උඩටම යේවා" යි මෙසේ ආරාධනා
58 කොට වැද සවනීයභවනයට සම්ප්‍රාපතවූයේය. එකල රාත්‍රියෙහි බොධිවෘක්‍ෂයාගේ ශාඛාතොමෝ උඩට නැංගේය. ඉක්බිති කම්කරුවෝ ඒ සියල්ල සියහිමියාට කීහු.

59 අතිශයෙන් සතුටුවූ යුවරජතෙමේ සොහොයුරුවූ රජහට සැලකොට බොහෝවූ ධන විසඳු මහපූජින් පිදී. හේතෙමේ
60 එසේම මිහිඳුසෙන්නම් පිරිවෙණක්ද කරවා හොග සහිත කොට සඞ්ඝයාට දින, අතිතුදු පින් රැස්කෙළේයි. හේතෙමේ
61 තමන් පරිභොග කරණලද්දාවූ වස්‍ත්‍රද කුඩයද වහන්ද එසේම ගම්ක බත්ද හොජන සහිතවූ නහන ජලස්ථානයක්ද දින·

62 මෙසේ ඒ යුවරජතෙමේ ක්‍ෂුද්‍රානුක්‍ෂුද්‍රවූ පින්කොට රජහට තිස්තුන්වෙනි වර්‍ෂයෙහි කම්වූපරිද්දෙන් පරලොකප්‍රාපතවිය.

63 ඉක්බිත්තෙන් උහුමළකල්හි රජතෙමේ තමන්තිස්දෙවුන් මල්වූ උදයකුමරහු උහුගේ තන්හි තබා ඒ යුවරජහු සතුසියලල උහුට දින.

64 හේතෙමේ තුලාභාර දීමෙන් බැගැපත්වූ අනාථයන් සැනැප්වී. තුන්නිකාය එකතුකොට ධර්‍ම කර්‍මයෙන් ශුද්ධ කෙ
65 ළේය. හේතෙමේ රන්තලි දහසක් මුතුවෙන් පුරවා ඒ මත්තෙහි මහාර්‍ඝවූ මැණික් එක එක තබා බමුණන් දහසකට
66 ඉඩවූ රන් බඳුනෙහි කිරිබත් වළඳවා රන්හු දෙවා එසේම
67 රිසිසේ අභිනවවූ වතින් හඳවා පින්ඇත්තේ මහපෙරහරින් සැනැප්වී.

68 ලක්දිව්වැසිවූ භික්‍ෂූන්ට තුන්සිව්රු දුන්නේ සියලු ස්ත්‍රීන්ට ඉතා මනොහරවූ වස්‍ත්‍රද දින.

69 ලෝවාමහාප්‍රාසාදය විජයොත්නම් පහය සමකොට කරවා

රතින් ගනකොට මිණි ඔබ්බනලද පිළිමය එහි වැඩුවේය.
70 (ඒ ලෝවාමහපහය) සියලු බුදුවරයන්ගේ (කාලයෙහි) පොහෝගේ බව අසා "මේ පහයතෙමේ හිස්නොවේව" යි එය සඞ්ඝයාගේ වාසස්ථාන කෙළේය.

71 ඊට භොග උපදනාගම්ද දුන්නේ ආරක්‍ෂකයන්ද යෙදී. "දෙතිස් නමක් පමණ භික්‍ෂූහු වෙසෙත්ව" යි නියම කෙ
72 ළේය. හේතෙම ගඟාවේ මිණිමෙවුලානම්න් මරියාදුවක් (හෝ මියරක්) කෙළේය. මින්නේරිවැව්හි හොරොවුවක්ද කරවී.

73 හෙතෙම කටුනනරුවැවද කාණවැවද බැඳවී. සෑගිරියෙහි
74 වෙද සලක්ද කරවී. බුද්ගමුවෙහෙරද මියුගුණවෙහෙරද කු
75 එතිස්වෙහෙරද භොග උපදනාගම්න් වැඩී. මණ්ඩලගිරිවෙහෙරට තමාසතු ගම් දීන. උත්තරාළ්හනම් පිරිවෙණෙහි ප
76 හයක් කරවී. මහසෙන්නම් පිළිමයට ගමක් දී රැකවරණ ත
77 රුවන් දීන. හෙප්නම් වෙහෙරද පිළිමගෙයක් කරවී.........මිණිමෙවුලානම් පහයෙහි බෝසත් රූද වැඩී. ගල්පිළිම
78 වහන්සේගේ දිරූගෙයද කරවී. රජතෙමේ එහි මැදුරසහිත වූ ඒ බොසත් රුවද පිහිටවී. බොධිවෘක්‍ෂයාගේ තොතැනත
79 බැඳ මහපුදක් කෙළේය. සියලු රුවන් සූත රන්පට ලියා ඊට මහ පුදක් කෙළේ අබිදම් කියවී.

80 අනඳතෙරුන් පිළිරුව ගෙණවුත් නුවර පැදකුණුකොට
81 භික්‍ෂුසඞ්ඝයා ලවා විදිසේ පිරිත් කියවා පිරිත්පැන් ඉසීමෙන් ජනයා නිරොගි කරවා රජතෙම මෙසේ රොගභයද සියදෙ
82 සින් බැහැර කෙළේයි.........රුවන් වැලි සෑයෙහිදී අබිසෙස්
83 ගෙණ ඒ සිරිත අවුරුද්දක් පාසා කරන්ට ලියවී. හෙතෙම මසකට සිවුවරෙක් පොහෝදවස්හි සාරදහසකට බත් සහිත
84 වස්ත්‍රදානය දීන. හෙතෙම දුගීදනන්හා එක්ව ඔවුන්ට රිසි
85 සේ බත් පැන් වත්දී වෙසහ කෙළිකෙළියේය. ලක්දිව ඩික් සඟනට නිතිදන් පැවැත්වී. දුගී මගී යදියන් දනින් සෑ තැප්වී.

86 ඒ රජහුගේ සඞ්ඝානම් මෙහෙසිද අභයුත්තරනම් වෙහෙර
87 භොග සහිතකොට පර්ෂාකාර සඞ්ඝසෙනනම් වෙහෙරක් කරවී. ශෛලමය ප්‍රතිමාවහන්සේට නිල් සිළුමිණක්ද කරවී. සියලු උපහාරයෙන් යුක්තකොට බුදුන්ට පූජාවක් සැමකල්හි කළා.

88 සූරවූ තුටඨකනම්වූ උහුගේ සෙනෙවිතෙමේද මහත්
89 භොගඇතිකොට සේන සේනාපතිනම්වූ පිරිවෙණක් කෙළේය.........මෙසේ පිරිස් සහිතවූ ඒ (සේනනම්රජ) තෙම

90 පින්කොට පන්තිස්වෙනි වසෙහි දෙව්ලොව ගියේය.—
ඉක්බිත්තෙන් උහු බාල මල් සියලු පියොවින් ලක්දිව
වැස්සන්ට වැඩකැමතිවූ උදයනම් ක්‍ෂත්‍රියතෙම රජවී.
91 හෙතෙම තමන් රජවැ සිය සොහොයුරු පිත්වූ කසුප්
92 කුමරහු මාපාතන්හි තැබී. රජතෙමේ "නැයන්ට සඟුහ
කටයුතුය" යි සිතා මෙසේ කසුප්නම්වූ සහෝදරයාගේ පුත්‍
93 යාට යුවරජහුගේ සේනානම් දියනිය භාර්‍යාකොළේ රජතෙ
94 මේ අනඝවූ තිස්සානම් දුව තමන් භාර්‍යාකොට ගත්තේය.
කිත්තිනම් රජදුවගෙන් උපන් මිහිඳු උපරජහු පුත්වූ නුවන
95 මඳවූ කිතුඅක්බෝනම් ඈපාතෙම මහරජහට සොරවැ රැ
96 නික්ම හුදකලාවැ අප්‍රසිඩ වේසයෙන් රුහුණට පැමින ජ
නයා අත්පත්කොට සියලු ඒ දෙසය වනසා හෙතෙම එහි
සිටියාවූ තමන් මයිල්හු මැරවී.
97 ඒ අසා මිහිපල්තෙම උහුකෙරෙහි බෙහෙවින් කිපී හෙ
තෙම උහු ගෙන්වනු පිණිස යම් කිසිසේ උපා සොයන්නේ
98 හෙතෙම සොහොයුරු පිත්වූ ඒ කසුප් යුවරජහු කැඳවා "ම
99 හ පිනැත්තා මට සහායවේව"යි කථාකෙළේය. "මාවිසින් කු
මක් කටයුතුදැ" යි හෙතෙම කීය, රජතෙමේ (මෙසේ) පිළිව
දන්නී "තොපගේපුත්වූ ඒ මිහිඳු තෙමේ වැඩිවියපත්වූයේ ම
100 හ බලැත්තේය මවගෙන්ද පියාගෙන්ද රුහුණුදෙසට ගිම්
යෙක. සූරය සියලලඉවසන්නේය. වීර්‍යඇත්තේ දක්‍ෂවූයේ
101 කරණලද සිප් පුරුදුකම් ඇත්තේය. යුඩයට සෝගඝවූ නුව
නැත්තෙක නිපුණය ක්‍රමයන්හි දක්‍ෂය උහුයවා මයිල්හු මැ
102 රූ පාපයා ගෙන්වම්හ" රජහුගේ එබසසා ආදර සහිතවූ ක
සුප්තෙම කීයේය' දේවයන්වහන්ස දේවයන්වහන්සේ විසින්
103 කියනලද්දවූ මම යන්නෙමි මපිත්තෙම කිමෙක—ජනා
ධිපතිය මාගේවංශයද නුඹවහන්සේගේ ප්‍රසාදයද රක්නාලද්
දේවේ එහෙයින් කල්නොයවා යමක් කැමතිනම් එසේකරව'
104 උහුගේ එබසසා ඉතාසතුටුවූ ඒ රජතෙම බෙහෙවින් සතු
ටුවැ මහා සේනාසමූහයක් සර්වප්‍රකාරයෙන් පිළියෙළ කොට
105 මහිඳුනම් ඒ රජපොව්වා මහපෙරහරින් රක්නට විදුරග
106 නම් අධිපතිහු නියෝගකොට පුරය සිස්සේ කොට සියලු
සේනාවාහනද සියලු උපකරණද නොඅඩුකොට උහුට දෙවා
107 රජතෙමේ පයින්ම උහුපස්සේ යමින්" මහපිනැත්තා යව පො
ළොව රකුව" කියා යැව්. ඒ මිහිඳුතෙම දෙව්සෙනග විසින්
108 පෙරටු කරණලද මහෙන්ද්‍රතෙම සුරාසුරයන්ගේ මහයුඩට
යන්නාසේ බැබලී. හෙතෙම ගොස් නොබෝකලකින්ම
109 ගුත්හලට පැමිනියේය. ඉක්බිති සියලු දනව් වැස්සෝද රැ

110 ටියන් සහිතවූ මඩාලාධිපතිහුද ඒ මාතුලඝාතකවූ පව්ටා වි
සින් කරණලද උපද්‍රවඇත්තාහු අපවිසින් හිමියෙක් ලබන
ලද්දේයයි ගොස් උහු පිරිවරා ගත්හ. ගිරිඹුල්ලෙහි සිටි
111 (ඉසුරෙන්) ගිලිහෙන ඒ සොරතෙමේද සියලු මාහැඟි රජ
සතු බඩු අත්පත්කොට ඇතුන් අසුන්ද ගෙණගොස් පව්ව
ට නැංගේය.
112 මිහිඳුහුගේ සේනා තොමෝ උහුගේ සේනාව ඒ ඒ තැන
113 මරමින් උහුගේම පසු පස්සේ යමින් ඇතුන් අසුන් කඳු අස
114 බඩදී දැක (ඒ) ගෙණ "මෙතැන හේතෙමේ ඇතැ" යි සියලු
ගිරිගහණය මඩිමින් නදින්හා ජලාධාරයන්ද මාගීය සමාන
115 කරමින් එහි පිවිසියේය.——හෙතෙම ජනයා දැක ක්‍රොධ
යෙන් මඩනා ලද්දේ ලදරුවෙකුසෙයින් තමන්ගේ සියලු රූ
116 වන් ගංහෙප් ඉවුරු ආදිතන්හි දැමීය. වනයෙහි ගිරි කඳු
රෙක හුදකලාව සැඟවිනා. සොයන්නාවූ ජනතෙම ඒ අධම
117 මනුෂ්‍යයා දැක අල්වාගත. ඉතා තුටුවූ ඒ ජනතෙම උහු
ගෙණ වහා අවුත් ගුත්හල උන් මිහිඳුකුමරහට දැක්වී.
118 හෙතෙම උහුදැක "කිමෙක රුහුණ අනුභව කරණ ලද්
119 දේද" යි සිනාපහල කොට රජහුගේ විදුරගනම් අධිපතිහට
පාවා දී, තෙමේ සේනාව හැරගෙණ මාගමට ගියේ රුහුණ
120 අධිපතිවැ ලොවට සඟුහ කරන්නේ අඥනයා විසින් පෙ
121 ළනලද ජනයා සුවපත්කොට උහු විසින් නසනලද බුදුසස්
නද තුබූ තන්හි පිහිටුවා ඒ ඒ තන්හි මල්වතු පලවතු කරවා
122 මහගඟ බඳවා වැව්ද කරවා ගෙණ හැමතන්හි සඟහට සිවු
123 පස සුලභකොට නපුරුවූ මඩලෙශ්වරයන්හා රැටියන්ද මැ
ඩපවත්වා සොරුන්ද දුරලා කටුරහිතකොට පරිත්‍යාගයෙන්
හා භොගයෙන් යුක්තවූයේ සියලුජනයා තුටු කෙරෙමින්
124 නුවනැත්තන් විසින් ඇසුරුකටයුත්තේ දන කැමැත්තන්
විසින් සේවාකටයුතුවූයේ සියලු යදියන්ට සැපත් එලවන්
125 නාවූ කප්තුරක් හා සමවූයේ පූරාණයන් විසින් පවත් වන
ලද දුර්විනය දුරලා දහම්ද පිළිපදනේ එහිම වාසය කො
126 ළේය.——විදුරගනම් අධිපතිතෙමේද ආදිපාදයා ගෙණ
අනුරාධ පූරයට පැමිනා රජහට දැක්වීය.
127 රජතෙමේද උහුදැක කිප්යේ වහා දඟගෙහිදමා උහුට
128 රැකවරණ දීන. සියලු පියොවින් වෙහෙසෙද කරවීය. මහා
යසස්ඇති හේතෙම තුන්වරක් තුලාභාරද දීන. ථූපාරාම
129 යෙහි දගැබද රන්පටින් වැස්වීය.——එහිම පහයක් කොට
භික්‍ෂුසඞ්ඝයාවස්වා වෙහෙර හා පූරයෙහිත් දිරාගියදැ නව
කම්න් යුක්ත කෙළේය.

130 කොළොම් හොයෙහි තහවුරු බැඳුම් ඇත්තාවූ ගඟුල්ඇ
ළක් කෙළේය; හෙතෙම මයෙතිනිනම් වැවෙහි මියර ම
131 හත් කරවී· රජතෙමේ එහි සොරෙවුවද අවුරුදුපතා කරවී.
අනිසයින් මොලොක් යහපත් වසනුද සිව්රුපිණිස දෙවී.
132 දුර්භික්ෂ කාලයෙහි දන්හල් කරවා සියලු සත්ත්වයන්ට මඟදත්
පැවැත්වූයේ මහාපාළිනම් දන්හලද වැඩී. තුන්නිකා වැසි
133 භික්ෂූන්ට දී හා බත් දෙවී, සතතයෙන් දුගී බත්ද කැවිලි
134 සහිත වූ කැඳද දෙවී. හෙතෙම දෙව්ලොවට හිතවූ මේ
135 ආදිපින්කොට එකොළොස්වසකින් දෙවියන් හා එකීභාවයට
ගියේය——උහු විසින් මේ එකොළොස්වස්හි දෙනලද
රන්ම තිස්ලක්ෂයක්විය.

136 එක් නිරිදෙක්තෙම අනිසයින් දුකසේ දිනියයුතුවූ පඬිරජු
ද අනික්රජතෙමේ උග්‍රවූ දුර්ගස්ථානඇති රුහුණද තමන්
යටහත්බැව්හි තබා මේ රජහු තමන් මරහුගේ යටහත්
බවට පැමිනියෝය.

මෙතෙකින් සුදිජනයාප්‍රසාදසංවේගපිණිස කළ මහවස
රාජවයදිපනනම්වූ එක්පණස්වෙනි අදියර නිමි.

---

# 52 වෙනි පරිච්ඡේදය.

---

1 ඉක්බිති කසුබ් රජ රාජ්ජයෙහි පිහිටා ප්‍රඥ සම්පන්න කසුබ්
2 යුවරජහට දකුණු දිග දීන. යුවරජහුගේ දූවූ තමන් භාර්‍ය්‍යාවූ
3 තිස්සානම් රාජකන්‍යාවට අග්‍රාභිෂේක දීන. ඒ ඒ දිගින් ආවා
වූ යාචකයන්හා ශිල්පීන්ට රජතෙමේ හැම කල්ම දඹිස්සර
4 නම් දානය දෙවී.

එකල රුහුණ වසන ඒ මිහිඳු නම් ඇපාතෙමේ බලසෙන්
ගෙණ රජහුගේරට ගන්ට ආය. ඒ අසා කිපිරජතෙමේ තමන්
බලසෙන් යැවීය. මහාහට ඒ මිහිඳුඇපාතෙමේ යුදකොට
5 රජහු සෙන් පැරදවී. ඉක්බිති රජතෙමේ උහු සනසනු පිණි
ස උහු පිය කසුබ් යුවරජු යැවීය. ඒතෙමේ පුතු කරා ගොස්
6 නොයෙක් දහම් කථාවෙන් යුක්තවූ යුක්තිය නොයෙක් පරිද්
දෙන් කියා පුතු යුදයෙන් වලක්වා පෙරලා ආයේය. ඒ ඇපා
7 තෙමේ පසුව මඬලනායකයන් මරා ජනපද වාසීන් කිපූනා
8 දැක නුවර වෙත ආයේය. භික්ෂුසඞ්ඝතෙමේ උහු ගෙණවුත්
9 රජු දැක්වූය. මේ රජතෙමේ තමා දියනියන් උහුට දී පෙරලා
රුහුණු යවිය.

10 ඒ රජතෙමේ තුන්නිකා වැසසන් අතුරෙහි දුස්සීලයන් බැ
ගැර කොට ඒ ඒ ආවාසයෙහි අළුත් භික්ෂූන් වැස්වීය. අබිසෙව්
11 දෙදෙනා පින් ඇපානන් ලවා මහවෙහෙර බෝයෙහි පූජා
කෙරෙමින් පස් වැඩීම කරවී. එකල තුන්නිකායෙහි සෙල්මු
12 වා පිළිරූ තුණෙහි රන්මුවා රස්වලලුය කුඩය සිළුමිණ යන
මේ කෙළේය. අභයගිරි විහාරයෙහි සියනම්න් පහයක් කර
13 වා එහි භික්ෂූන් වස්වා ගමක් දෙවීය. ඒ රජතෙමේ මයහගන
14 විහාරයෙහි සෑයට ගමක් දින. ගොඩ දිය සතුන්ට එකල
15 අභය දින. හැමකල්ම පෙර රජුන් සිරිත පරිපාලනය කෙ
ළේය.

16 ඒ රජු සෙනෙවි ඉළඞ්ගසේනනම් රජගොත්හි උපන්නෙ
ක් ථූපාරාමයාගේ පිටිපස මහාවිහාරවැස්සන්ට ආවාසයක්
17 කෙළේය. ධම්මරුචික භික්ෂූන්ට දහම්අරම කරවී. එසේම
සාගලික භික්ෂූන්ට කසුප්සෙන්නම් (ආරාමය කරවිය.) එම
18 සෙනෙවිතෙමේ සෑගිරිගල හෑදයොෂණනම් පිරිවෙණ කර
වා ධම්මරුචික භික්ෂූන්ට දින. ආරමික භික්ෂූන්ට ඒ ඒ අරම්හි
19 එක එක ගේ කොට දෙවී. එම සෙනෙවිතෙමේ රත්මල
ගල සිත්කළු උතුම් මනා කුටියක් කොට සසුන් හිමි තවසුන්
20 ට දින. මහාවිහාරයෙහි මුහුදුගිරිනම් උතුම් පිරිවෙණක් ක
21 රවා පාංශුකූලික භික්ෂූන්ට දින. තමාගේ වංශයෙහි නම්ඇති
22 ආවාසයක් වෙනෙහි කරවා මහාවිහාරයෙහි වනවාස භික්ෂූ
න්ට දින. දිරූ වෙහෙරවල නවකම් කරවී. සියලු භික්ෂූන් මා
23 ළුසිව්රෙහි අගුල් ගැන්වී. තිස්සාරාම නම් මෙහෙණවර කොට
මිරිසවැටි මහබෝ පරිහරණයෙහි පිහුටුවී. අනුරා පූරද පො
24 ළොන්නරුවද උවදුරු රෝග නසන පිණිස වෙදහල්කරවී.
25 තමා විසින් කළ ආවාසයන්ට අයගම්ද එසේම හේතෙමේ ආ
රාමිකගම්ද පිළිම පොෂ්‍යද දෙවී. ඒ තෙමේ නුවර ඒ ඒ තන්
26 හි බෙහෙත් ගෙවල් කරවී. පාංශුකූලික භික්ෂූන්ට බත්හා ව
ස්ත්‍ර දෙවී. බන්ධනගත බොහෝ තිරිසනුන් මිදවී. ඒ සෙනෙවි
27 තෙමේ දිළිඳුන්ට මහ දන් දෙවී. විසිතුරු ව්‍යජන බත් කැඳ
28 නොයෙක් වගීයෙහි කැවුම් හුරු රූබඳු උක්සකුරුද නනා
29 භික්ෂූන්ට දින. සේනානායක සේනතෙමේ මේ ආදී පින්
කොට කීර්ති සඳරැසින් සියලු දිගුන් හෙබවී.

30 උහු නෑ රකුස්නම් නායකතෙමේ සවාරක ගම ඉතා සිත්
31 කළු විහාරයක් කොට උතුම් වත් (පෙවෙත්) මොනවට පිහිටු
32 වා මහවෙහෙර වැසි පිළිවෙත් සරු භික්ෂූන්ට දිනි—සේන
33 නම් මහලියන්නා මහවෙහෙර මහලේනාපව්නම් උතුම් ආ
34 වාසයක් භික්ෂූන් පිණිස කරවී—එම රජහු ඇමතිවූ සොළී

රජනම් තැනැත්තේ සහමුලින් නටබුන් පිරිවෙණක් සුප්‍රති ෂ්ඨායෙන් සිත්කළුකොට කෙළේසි.

35 රජතෙමේ තුන්නකයෙහි රූපකර්මයෙන් සිත්කළුවූ විජ යොත්පාය බඳු විසිතුරු මඬප කරවා ජනයා සිත් ගන්නා ධා
36 තු පූජාද කරවා දසසත් හවුරුද්දක් වැස කම්වූ පරිද්දෙන් (පරලොව) ගියේය.

37 ඒ රජුට ඉක්බිති අභිෂෙකලත් බිසවකුස හොත් කසුබ් යුව රජතෙමේ පිළිවෙළින් ආ ලක්රජයෙහි ලදඅබිසෙව් ඇතිවී
38 ය. හේතෙමේ සැදැහැත්තේ ආගතමාගීදවේ. අභිඥැත්තෙ කුසේ පැණවනි අමර මනාත්‍රිසෙසින් වක්‍යාය වෙසමුණු රජු
39 සේ ත්‍යාගකරුය බොහෝ ඇසූ පිරූතැන් ඇත්තේ ධර්මකලිකය සියලු ශිල්පයෙහි විසාරදය යුක්තා යුක්ත විචාරයෙහි දක්‍ෂ
40 ය නීතියෙහි පණ්ඩිතය ඉන්ද්‍රකීලයක්සේ නොසැලෙන්නේ බුදු සස්න පිහිටියේ සියලු පරප්‍රවාදී වාතයෙන් අකම්ප්‍යයි. තමා
41 කෙරෙහි නැති ගුණ පහළකරණ ලක්‍ෂණ මායාය නුගුණ සඟවන ලක්‍ෂණ ශාඨ්‍යය මත්ය යනාදී පාපයන්ට අගොච
42 රයි සියලු රුවනට සයුරසේ ගුණයනට උත්පත්තිස්ථානයි.

43 භූමිචන්ද්‍ර ඒ නරෙන්ද්‍රතෙමේ තමා ගෝත්‍රයෙහි උපන් දප්පුළ ඈපානන්ට යුවරාජපදය දීන. දශරාජ ධර්මයෙන්හා චතුඃස
44 ග්‍රහ වස්තුවෙන් රජකෙරෙමින් තමා එක් ඇසක් සෙයින් ලොව රැක්කේය. බුදුන්ගු සියලු සස්න දහම් කම්න් ශුඬකොට
45 නවක භික්‍ෂූන් ගෙණ ආවාසපූරණය කෙළේය. දුටුගැමුනු රජුවිසින් කරණලද නටුවාවූ මිරිසවැටි වෙහෙර අනෙකාවා
46 සයෙන් හොබනා සේ කරවා මහපෙළහර කොට තෙර වසඳ භික්‍ෂූන්ට දීන. ඒ පන්සියයකට අයගම්ද දෙවී. ඒ
47 ලඞ්කෙන්ද්‍රතෙමේ සිත්කළු තුසීපුරෙහි දෙව්පිරිසින් පෙරටු කරණලද උතුම් දහම්දෙසන මෛත්‍රේබිම්යා ලොවට ද
48 ක්වන්නාසේ සර්වසජ්ජිත ඒ විහාරයෙහි නත්රුවනින් හෙ බියාවූ සිත්කළු මඩුවෙහි හුන්නේ නුවරුන්හා භික්‍ෂූන් වි සින් පිරිවරණලද්දේ බුඩලීලායෙන් විජම්බණ දෙසී.

49 එකල (ඒ රජතෙමේ) විජම්පෙළ රන්පත ලියවා දම්සඟු
50 ණුපොත නත්රුවනින් හොබනා කොට නුවරමැද උතුම්
51 ගෙයක් කරවා ඒ පොත එහි තබ්බවා පෙළහර දෙවී. තමා
52 පුතුට සක්සෙනෙවි තනතුරු දී ඒ දම් සඟුණු පෙළහරෙහි
53 උහු යෙදී. ඒ රජතෙමේ හවුරුදු පතා දෙව්පුරයක්සේ පුරය
54 සරසවා හැරහුනු සෙන්විසින් පිරිවරණ ලදුව සර්වාබරණින්
55 සැදී දෙව් රජුසේ හොබමින් ඇත්කඳ හිඳ පුරවේ හැසිරෙ මින් ඒ දම්සඟුණුව තමාවිසින් කරවනලද සිත්කළුවූ සර්

56 සජ්ජීත විහාරයට මහපෙළහරින් වඩාගෙණවුත් නන් රුව
නින් හෙබි සිත්කළු ඒ වෙහෙර දාගෙයබඳ මඬුවෙහි දාපිළ
57 තබා පිදුයේය. ඒ රජතෙමේ මහමෙවුනා උයන ග්‍රන්ථාකරපි
රිවෙණද නුවර වෙදහල්ද කරවා ඊට ගම්ද දෙවි. අභයගිරි
58 විහාරයෙහි භඬිකා පිරිවෙණද සලමේ පව්වද කොට ඊට අය
ගම් දින. ලක්නා එම රජතෙමේ ජෝතිවන වෙහෙර දන්
59 හලටද එසේම අභයගිරියටද (එකී එකී) ගමක් දින. පරම
60 ධාර්මික රජතෙමේ කෙළෙහිගුණ දන්නාබැවින් දකුණුගි
61 රි වෙහෙරටද ගමක් දෙවි—සක්සෙනෙවිතෙමේ සිත්
කළු පිරිවෙණක් සියනමින් මොනවට මවා ගම්සමග මහ
නිකා භික්‍ෂූන්ට දිනි—වජිරානම් උහු බිරින්ද සියනමින්
62 පිරිවෙණක් කොට ගම්සහිතව මහවෙහෙර වැස්සන්ටම
දෙවි. ඕතොමෝම පාදලාඤ්ජනයෙහි මෙහෙණවරක් කොට
63 සියලු තන්හි ප්‍රසිඬ ථෙරවංශික භික්‍ෂුණීන්ට දුන්නීය—සක්
සෙනෙවි මව්දේවීතොම මහාවිහාර වංශික ආරණ්‍යක භික්‍ෂූ
64 න්ට සියනමින් ආවාසයක් කළා. ඕතොමෝම මිරිසවැටි බුදු
65 රුවබඳ සිළුමිණ පාදල සත සිවුර යනමේ කළාය.
66 රජතෙමේ රජගෙයිම සියනමින් රාජාවාසයක්ද ඉතා සිත්
67 කළු පාළිකනම් පහයක්ද කෙළේයි—රජහු අනික් බිරින්
68 දක් වන රාජිනිනම් තැනැත්තී රුවන් වැලිසෑය පට සැට්ට
යකින් පිදුවා—ඒ බිසව් පිත් ඉසුරෙහි පිහිටි සිඬත්‍ථනම්වූ
69 මලයරාජයයි ප්‍රසිඬ රුවින් මලවියා බඳු කුමරෙක්වී. රජතෙ
70 මේ උහු මළකල උතුම් ගලක් කොට දන්වැට තබා එකල
උහුට පින්දින.
71 එකල ලඬකාධිපති රජහු මෙසේ දැහැමින් රජකරත් පඬි
රජතෙමේ සොළීරජුහා යුදකොට පැරැද්දේ බළ සෙන් සඳ
72 හා නොයෙක් පඬුරු එවී. ඒ ලඞ්කෙශ්වර රජතෙමේ ඇමති
යන්හා මන්ත්‍රණය කොට බළසෙන් සරසා සක්සෙනෙවියා
73 බලනායක කොට තෙමේ මහතොට ගියේ මුහුදු වෙරළසිට
74 පූර්ව රජුන් විජය කියා උත්සාහ දනවා බළසෙන් නැව්නැ
ගීය—එකල සක් සෙනෙවිතෙමේ බළසෙන් ගෙණ සුව
75 සේ සයුර එතරව පඬිරටට පැමිනියේය. පඬිරජතෙමේ බළ
සෙන් සහ උහු දැක සොම්නස් ඇත්තේ "දඹදිව් එක්සත්
76 කරන්නෙමි" යි කියා ඒ පඬිරජ දෙ සෙනග ගෙණ සොළියා
දිනනු නොහැකිව යුදකිස හැර නික්මින. නැවත සක් සෙ
77 නෙවිතෙමේ "යුදකරන්නෙමැ" යි ගොස් හුන්නේ පඬිරජහු
78 පව්නිසා උපද්‍රව රෙගයකින් මෙළේය—ලඞ්කෙශ්වරතෙ
මේ ඒරෙගයෙන් බළ සේනාද නස්නා අසා කරුණා බාහුල්‍ය

79 යෙන් සියසෙන් එරටින් ගෙන්වීය. එකල සක්සෙනෙවි තන
තුර උහු පුතුට දින. ඒ පුතු සේනානායක කොට උහු නමින්
80 වැඩී. එකල තුන්නිකා වැස්සන් ලවා පිරිත් කරවා සතුන් රෝ
81 දුබික් බිය නැස්වී. ඒ රජතෙමේ සස්නටද ලොවටද නො
යෙක් ආකාරයෙන් සෙත් කරවා දසවන හවුරුදුයෙහි සැප
සේ දෙව්ලොව ගියේසි,

82 මේ කසුබ් රජතෙමේ ලක් රජයෙහි පීටාත් හදළ තෙවළා
ඇත්තේ සියලු විදු පහන් බඳුවූයේ වක්තෘව වාදිව කවීන්‍ද්‍රව
සමෘතිධෘතියෙන් විශදය, දහම් දෙසන්නේ භාවනා කරන්
නේද වී ; පැණ සැදැහැ කුළුණු ඇතියහ ; පර වැඩෙහි නියැ
ළුනේය, ලොව හඳුනන්නේ දානශෞණ්ඩද වී ; සියලු ලෝවැ
සිතෙමේද මොහුසේ නිමල් ගුණ ඇත්තේ වේවා.

මෙතෙකින් සුදිජනයා ප්‍රසාදසංවේගපිණිස කළ මහවස
විරාජකනම්වූ දෙපණස්වන අදියර නිමියේය.

---

# 53 වෙනි පරිච්ඡේදය.

---

1 එකල දප්පුළනම් යුවරජතෙමේ රජව එමනම් ඇපානන්
2 උපරජතනතුරෙහි තැබීය. ඒ රජතෙමේ මිරිසවැටි වෙහෙ
රට ගමක් දී පසුව පෙරරජුන්ගේ චාරිත්‍රයන් පූරයෙහි රැක
3 මේ පෘථිවිය තමා පෙර කළ කමින් දීර්ඝකාලයක් නොවලඳ
සත්වනුමස මරුමුවට වන.

4 ඊට අනතුරුව දප්පුළ උපරජතෙමේ රජවිය. උදා ඇපා
5 නන්ට යුවරජපදය දින—එකල පඬිරජතෙමේ සොළී
බියෙන් සියදනව් හැර නැව් නැගී මහතොටට පැමිනියේ
6 ය, රජතෙමේ උහු ගෙන්වා දැක සතුටු සිත්ඇත්තේ උහුට
7 මහාභොග දින, නුවරින් බැහැර වැස්වී. "සොළිරජුහා
යුද කොට පටුන් දෙක ගෙණ පඬිරජහට දෙමැ" යි ලක්
8 රජ සැරසුනුකල ලක්දිව්වැසි ක්ෂත්‍රියයෝ කිසි කාරියක් කර
ණකොටගෙණ පඬිරජහු පව්කමින් දරුණු යුද කළහ. ප
9 ඬිරජතෙමේ මෙහි විසීමෙන් කම්නැතැයි සිතා ඔටුනුආදිය
10 තබා කේරලයාකරා ගියේය. එකල රජතෙමේ විග්‍රහ නැ

වනි කල මහමෙවුනාඋයන මහබෝගෙට නුවර වෙත ගම
11 දීන—ඒරජහු සෙනෙවිරක්ඛකනම් ඉළගතෙමේද ථූපා
12 රාමයවෙත රජනම් පිරිවෙණ කෙළේය. ඒ රජතෙමේ පෙර
රජුන් විසින් කළද්‍ද පරිපාලනයකොට දොළොස්හවුරුද්දට
පැමිනු කම්වූ පරිද්දෙන් (මියපරලොව) ගියේය.
13 උදයනම් යුවරජතෙමේ ලක්වැස්සන් ඉසුරුවී. සේනනම්
14 ඈපානන් උපරජයෙහි අභිෂෙක කෙළේය—එකල ඇම
තියෝ රජහට භයින් තපෝවනයට වන්හ. රජයුවරජහු
15 ගොස් උන් හිස් සිඳවූහ. ඒ කර්‍මයෙන් කලකිරුණු ඒ තවුස්
16 වෙන යතීහු රජහු දනව් හැර රුහුණු ගියහ. එකල දනව්
වැස්සෝද නුවරුද බලසෙන්ද සැඩපවනින් උලෙල සයුර
17 සේ කිපියහ. අභයගිරි විහාරයෙහි රුවන් පහයට නැගී
18 රජහු දැඩිගේ බිය ගන්වා බිහිසුනු රස දක්වා තපොවෙනෙ
හි කලහයට උපක්‍රමහ කළ ඇමතියන් හිස් සිඳ කවුළුවෙන්
19 (බැහැර) හෙළූහ. ඒ අසා යුවරජුහා උහු මිතුරු ඈපාතෙ
20 මේද පව්රෙන් පැන යුහුව රුහුණු ගියෝය. බලසෙන් කළු
ගංතෙර දක්වා ලුහුබැඳ නැව් නො ලත් හෙයිනුත් ඔවුන්
21 එතරවූහෙයිනුත් පෙරලා ආහ. තපොවෙනෙහි නිසිය බුන්
එහි ගිය රාජපුත්‍රයෝ තෙත් වස්‍ත්‍රහා කෙහෙඇතිව ඒ තව
22 සුන්ගේ ඉදිරියෙහි ලැම්ඩියෙන් හෙව නොයෙක් පරිද්දෙන්
වැලප මුරගා හඬා තපස්වීන් ක්‍ෂමා කරවූහ. ඒ සසුන් හිමි
23 යන් ක්‍ෂාන්ති මෛත්‍රි ආනුභාවයෙන් ලක්දිව්හිමි ඒ දෙ
දෙනාගේ පූර්‍ණොදය විය
24 මහසෙන් සන්හුන්කල යුවරජු බලසෙන්ද තුන්නිකා වැ
25 ස්සෝද උන් ගෙණ එන්ට ගියහ. ව්‍යක්ත පඬිත රජකුමරු
වෝ දෙදෙන පාංශුකූලික ඒ භික්‍ෂූන් යාච්ඤා කොට හැර
26 ගෙණ සියපුරට පෙරලා අවුය. රජතෙමේ ඒ භික්‍ෂූන් පෙර
මගට ගොස් ක්‍ෂමා කරවා ඔවුන් ගෙණ තපෝවනයට පමු
27 නුවා ඉක්බිති තෙමේ රජගෙට ආයේය. එතැන්පටන් පූර්‍වර
ජූන් සිරිත් රැක ඒ රජතෙමේ තුන්වන හවුරුදුයෙහි කම්වූ
පරිද්දෙන් පරලොව ගියේයි.
28 උහු ඇවෑමෙන් සමෘතිමත් සේනනම් ඒ යුවරජතෙමේ
ලඬ්කාරාජ්‍යාභිෂෙකයට පැමිනු මිතුරුවූ ඒ උදයනම් ඈපා
29 නන් යුවරජ කෙළේය, ඒ රජතෙමේ පොහොද්‍ද කහවණු ද
හසක් දුප්පතුන්ට දී පෙහෙවස් වෙසෙයි. දිවිහිම්යෙන්ම
30 මෙසේකෙළෙයි. ඒ රජතෙමේ භික්‍ෂූන්ට පිළිම බත්වස්‍ත්‍රයන්
හා යාචකයන්ටද ශිල්පීන්ටද දඬිස්සරනම් දානයක් දින. ඒ
31 රජතෙමේ කොතැනත් භික්‍ෂූන්ට ඉතාසිත්කළු පහ තනවා

32 අසගම් දෙවී. කහවණු දහසක්හෝ පන්සියයක් දී ලක්දිව්
දිරාගිය ආවාසයන් නවකම් කරවී. ඒ රජතෙමේ බයාගිරිසෑ
33 (මළුවෙහි) ගල්අතුරණුපිණිස සතළිස් දහසක් දෙවී. ලක්
දිව මහවැව්හි දිරාගිය වාරිමාර්ග නවගම්ද ගල්පසින් වැව්
34 යර තරයද කෙළේය. රජගෙහි සිත්කළු මාහැඟි මාලාගෘහ
35 යක් කෙළේය. පෙර රජුන්විසින් තැබූ දන්වැට මොනවට
පැවැත්වී. ඇමති අක්බෝ මලයරජුවිසින් කළ නාහල්පිරි
36 වෙණ එකල්හි දක ගමක් දින. සතර විහාරයෙහි රූකම්හා
රම්‍යමඩපයන් මොනවට කරවා හැමකල ධාතුපූජා කෙ
37 ළේසි. ඒ රජතෙමේ මේ ආදිවූ නොයෙක් පින්කම් නො
38 යෙක් පරිද්දෙන් කොට නවවන හවුරුදුයෙහි කම්වූ පරිද්
දෙන් පරලොව ගියේයි.

39 උහු ඇවෑමෙන් උදයුවරජ ලක්අබිසෙව් පත්ව සේනනම්
ඈපානන් යුවරාජ්‍යාභිෂේක කෙළේය. මේ උදුරජ මිනිසුන්
40 පවින් නිද්‍රාශීලි සුරාපායී විය. හොළියා උහු පමාබැව් අසා ස
තුටු සිත් ඇත්තේ පඬිරට අභිෂෙකයට පැමිනෙනු කැමැත්
41 තේ පඬිරජුවිසින් තබනලද ඔටුනුආදිය සඳහා මෙහි (හසු
42 න්) එවී. රජතෙම ඒ අබරණ නොදින. ඉත් කිපි මහත් බ
ලැති හොළියා බලාත් කාරයෙන් ගන්ට බළසෙන් සරහා
43 එව්ය. එකල මෙහි සෙනෙවිතෙමේ පසල් දනව්ව කිපිහෙ
යින් ගියේය. රජතෙමේ උහු ගෙන්වා යුදපිණිස යැව්ය.
44 එහි ගිය සෙනෙවිතෙමේ යුද කොට රණබිම්හි මෙළේය. ඒ
රජතෙමේ ඔටුනු ආදිය රැගෙණ රුහුණු ගියේය සොළී බ
45 ළ සෙන් එහි ගොස් ඇතුල්වනු නොලැබ බියෙන් පෙරලා
මෙයින් සියරට ගියහ.

46 ඉක්බිති ලක්නා රජතෙමේ තේජස්හා මහ පැණැති විදුර
47 ග නායකයන් සෙනෙවිරත් තනතුර තැබීය. ඒ සෙනෙවිතෙ
මේ සොළීරජහු පසල්දනව්ව වනසා බිහිසුනු රස දක්වා මෙ
48 යින් ගෙණ ගියදෑ පෙරලා ගෙන්වී——ඉක්බිති ඒතෙමේ
මේ දිව්වැසි සියලු පාංශුකූලික භික්ෂූන්ට ඉතා අගනා සියලු
49 පිරිකර දෙවී. එකල ලඞ්කෙන්ද්‍රතෙමේ මහවෙහෙර සතරහු
50 පිළිබිඹු පිළිබඳ මිණිරැසින් වොරජනා සිළුමිණ කෙළේසි.
ඒ රජු අනෙත පූරික විදුරානම් අඩගනාතොමෝ ප්‍රජ්වලිත මි
51 ණියෙන් උපලක්ෂිත පාදලකින් සෙල්මුවා එම පිළිමය පිදූ
වා. සොළීරජු බලසේනාවිසින් දැවූ මිණිනම් පහය කරන්ට
පටන් ගත්තේ අටවනු වස්හි උදුරජ මෙළේය.

52 වසුධාධිපති මේ පස්දෙනම එක් සේසතින් ලකුණු කරණ
ලද වසුමතිය අනුභව කොට සග්‍රහ නිග්‍රහ දෙකින් සියලු

ලෝවැසි ජනයා වසඟයෙහි පවත්වා පුත්‍රභාර්‍ය්‍යාවන් අමාත්‍ය භෘත්‍යයන් සමග මරු වසගයට ගියහ, සත්පුරුෂයෝ ප්‍රමාදය මදය හරණට මෙබන්ද මෙසේ සතතයෙන් මෙනෙහි කෙරෙත්වා.

මෙතෙකින් සුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහ වස පචරාජකනම් තෙපණස් වෙනි අදියර නිමි.

---

# 54 වෙනි පරිච්ඡෙදය.

---

1 ඉක්බිති ඒ සේනතෙමේ ක්‍රමාගත ලඞ්කාරාජ්‍යාභිෂෙකයට පැමිණ මිහිඳු ඈපානන්ට යුවරාජපදය දිනි. ඒ රජතෙමේ 2 ප්‍රාඥය මහාකවිය ව්‍යක්තය මිත්‍රශත්‍රූන්කෙරෙහි මධ්‍යස්ථය හැමකල්හි දයාමෛත්‍රියෙන් යුක්තද වී. සැමකල ඒ රටෙහි 3 කාලාතික්‍රම නොකොට මොනවට ධාරානිපාතයෙන් මෙඝය වසී. එහි වසන්නෝ සුවපත්ව නිර්භය වූහු. ඒ රජතෙමේ 4 ලොකොපකාරයෙහි යුත්තේ තුන්නිකාවාසීන් විසින් පිරිවරණ 5 ලදුව සූත්‍රාන්තය වර්ණනාකෙළේය. හේතෙමේ නන්රුවනින් කෙබි දළදාකරඬුවද සතර වෙහෙරට (වඩාගෙණවුත්) 6 නොයෙක් පරිද්දෙන් ධාතුපූජාද කෙළේය. තමන් පෙරවිසූ සිඵ්ග්‍රාමයෙහි පිරිවෙණක් කරවා ලෝවැස්සා පුතෙකුමෙන් පාලනය කොට තුන් හවුරුදුයෙකින් දෙව්ලෝ ගියේය.

7 ඊට අනතුරුව මිහිඳුනම් ඒ යුවරජතෙමේ රජ විය. මහ 8 පින් මහාතේජස් මහසෙන් මහායසස් ඇති ඒ රජතෙමේ සොරඋවදුරු නසා ලක එකසත් කෙළේය. මඬලනායක 9 යෝ නිතියෙන් උහු උවටන් කළහ——ඒ නරශ්‍රෙෂ්ඨතෙමේ ලක්දිව ක්‍ෂත්‍රියයන් ඇතිකලත් කාලිඟුසක්විතිවංසයෙහි උ 10 පන් කුමරියක් ගෙන්වා ඈය තමහට අගමෙහෙසුන් කෙළේය. ඒ රාජන පුතුන් දෙදෙනෙක්හා මනොරජනය කර 11 ණ එක්දුවක්ද වූහ. පුතුන් ඈපාකළහ. දියනියනුත් යුවරාජිනිය කෙළේය. හේ රජතෙමේ මෙසේ සිංහලවංශයද තැබීය. 12 වල්ලභරජතෙමේ දේසය මඩනා සඳහා නාගදිවයිනට බළසෙන් එවීය. මෙහි භූපාලතෙමේ එපවත් අසා බළසෙන් දී 13 සෙනනම් සෙනෙවිරදු වල්ලභ රජහු බළසෙන්හා යුද පිණිස එහි යැවීය. එකල සෙනෙවිතෙමේ එහි ගොස් ඒ රජහු 14 බලසෙනාහා යුද කොට ඒ සෙන් නසා රණමඬල ගත. ඒ 15 වල්ලභාදී රජදරුවෝ මේ රජු දිනිය නොහැක්කෝ ලඞ්කා

16 ශවරයහා මිත්‍රසම්බන්ධ කළහ. මෙසේ මේ රජහු තෙද ලක්
දිව පැතිර මුහුද පැන දඹදිව්හිද පතළේය.

17 ඒ රජතෙමේ සදහම් කියන්නන් උතුම් බුහුමන්කොට
සදහම් අසා බුදුසසුන පහන් වූයේය. ඒ රජතෙමේ පාංශුකූ
18 ලික භික්ෂූන් රැස්කරවා ආයාචනා කොට තමාගෙට වැඩම
19 වා මොනවට අසුන් පනවා වඩාහිඳුවා හැම කල්හිම එක්
දවසෙක සෙසින් පිරිසිදුවූ බොහෝ වලඳනඳු දෙවිය. රජ
20 තෙමේ හැම ආරණ්‍යක භික්ෂූන්ට අනෙකව්‍යඤ්ජනයෙන් යු
21 ක්ත පිරිසිදුවූ මාහැඟිවූ බොහෝවූ බොජුන් හැමකල්හිම යැ
වී. කරුණා නිවාස තේතෙමේ ගිලන් තවසුන්වෙතට නිති
22 යෙන් වෙදුන් යවා පිළියම් කරවිය. ගිතෙලින් බැඳි ලුහුණු
23 රසහා උක්සකුරුද බුලත්හා මුවවසුන්ද පසුබත හැමඳ දිනි.
ලුහුණු ගම්මිරිස් තිප්පිලි හිඟුරු උක්සකුරු තිපල් ගිතෙල්
24 තලතෙල් යන මේ බෙහෙත් පාත්‍රයන්හි පූරවා පාපූරණ
ආස්තරණයන්හා එක එක බැගින් පාංශුකූලික භික්ෂූන්ට
25 සැමඳ දිනි, රජතෙමේ සිවුරු ආදී සියලු පිරිකර කරවා පාං
26 ශුකූලික භික්ෂූන්ට දෙවී. රජතෙමේ මහවෙහෙර එකෙකී
භික්ෂුකෙනෙකුට එකක් බැගින් අළුත් වස්ත්‍ර දෙවී. ඒ මිහි
27 පල්තෙමේ තුන්නක වැසි ලාභයෙන් දිවිරක්නා භික්ෂූන්ට
දෙවරක් තුලාබර දන් දීන.

28 ඒ රජතෙමේ "එනතල රජදරුවෝ සඞ්ඝලාභයෙන් භො
ග නොගනිත්ව" යි ගල අකුරු කොටවා තැබ්බවී. අනාථ
29 යන්ලවා බුදුන් සරණහා නවගුණ කියවා උන්ට බත් පිළි
30 දෙවී, ඇත්හල්බිම දන්සලක් කොට යාචකයන්ට දන්හා
31 සෙනසුන් දීන. දයාවට ගෘහවූ ඒ රජතෙමේ සියලු වෙදහල්
32 හි බෙහෙත්හා ඇඳද අගගෙහි වැසි සොරුන්ට නිති බත්
33 ද දෙවී. වඳුරන් ඌරන් මුවන්හා බල්ලන්ට රිසිතෙක් බත්
හා පූප දෙවී. ඒ රජතෙමේ වෙහෙර සතරෙහි වී පූරවා රැස්
34 කොට "දුගිහු රිසිසේ ගණිත්ව" යි කියා දෙවී. නොයෙක්
35 පූදයෙන් පූද උතුම් පෙළහරකොට වියත් භික්ෂූන් ලවා එ
කල විනය හැදෑරවී. සිත්‍ගම්වැසි දහම්මිත් තෙරුන්පුද උන්
36 වහන්සේලවා අභිධර්මයට වර්ණනාවක් කරවී. ලක්දිව්අබරණ
බඳු වනවාසී දළනාතෙරුන්ලවා විජම් දේසනා කරවී. රජ
37 තෙමේ රුවන්වැලිසෑය පටසැට්ටපූජාවෙන්හා ගී නැටුම්ය
සුවඳ විලවුන නානා පුෂ්පය පහන්මාලාය සුවඳ දුම යන මේ
38 දැයින් නොයෙක්පරිද්දෙන් පූජා කොට ඒ සම්බන්ධ වස්ත්‍රයන්
39 බෙදා භික්ෂූන්ට දීන. හැම කල්හි ඒ රජතෙමේ තමා රජයෙහි
ඒ ඒ තැන උයන්වල පුෂ්පයන් ගෙන්වා, තුනුරුවන් පිදි,

40 මිරිසවැටියෙහි සඳුන්නම් පහය කරවන්ට ආරම්භ කෙ
41 ළේය. භික්ෂූන්ට අයගමක්ද දෙවී. ඒ මිහිපල්තෙමේ රුව
නින් කරඬුවක් කරවා කෙහෙදා නිදන් කොට එහි තබා පූජා
42 කෙළේය. ථූපාරාමයෙහි සෑය රන්රිදීපටින් වස්වා ඒ රජ
43 තෙමේ රජය පොහොනාපරිද්දෙන් පූජාකරවී. ඒ රජතෙමේ
44 එහි දාගෙහි හිරුරැසින් දිලියෙන මහමෙර බඳුකොට රන්
දොරක් කරවිය. හේතෙමේ පදලකුණෙහි සැසතරබඳ සො
45 ළිරජු බලසෙන් විසින් දැවූ සිත්කළු ගෙයද කරවී. නුවර
මැද දනලද දළදාගෙයද එසේම මහීපාලතෙමේ දම්සඟුණු
46 ගෙයහා බත්හලද කෙළේය.—ඒ රජතෙමේ බුලත්මඬු
වක් කොට එහි සුංවත් ගෙණ තෙරවස භික්ෂූන්ගේ බෙ
47 හෙත් පිණිස දෙවී. මහමල්නම් මෙහෙණවරක් කොට
තෙරවස මළුකම්ලත් මෙහෙනින්නන්ට දෙවී.

48 මිහිපල්තෙමේ මසිල් හුදී උදාරජුවිසින් එකල පටන්ගත් මි
49 ණිනම් පහය නිමවී.—එකල ඒ රජහු ඇමතියෝ සතර
දෙනෙක් ජේතවනයෙහි පිරිවෙන් සතරක් කරවූහ. රජහු
50 කීර්තිබඳුවූ මනරම් කිත්නි දෙවිතොමෝ ථූපාරාමයාගේ පසු
භාගයෙන් සිත්කළු පිරිවෙණක් කළා. ඕ ඒ පිරිවෙණද කපු
51 ගම්හිද සිව්රුසෑයෙහිද පිවිතුරු පොකුණු තුණක් කළා. ඕ
52 තොමෝම දිගදොළොස් රියන් රන්මුවා පතාකාවක් පූණ්‍ය
සම්භාර ඇතති රුවන්වැලිසෑයෙහි පිදුවා.—ඇය පුත්
53 තෙමේද ගිලනුන්ට නුවර වෙදහලක් කෙළේය ගුණවත්
සක්සෙනෙවිතෙමේ නුවරින් බැහැර භික්ෂූන්ට (වෙදහලක්
54 කරවී)—මහීනායක රජතෙමේ සිවුවෙහෙර දෙව්පහබඳු
මඬු කරවා එක් හවුරුද්දක් ඉක්ම නොයෙක් පරිද්දෙන්
55 ධාතු පූජාකරවා පෙරරජුන් සිරිත් මනාකොට පරිපාලනය
කෙළේය. ඒ රජතෙමේ නොයෙක් පරිද්දෙන් මේ ආදී
56 මහපින්කම් කොට සොළොස්වන හවුරුදුයෙහි දෙව්ලොව
ගියේයි.

57 එකල ඒ රජු නිසා උපන් කලිඟු බිසෝ පුත් දොළොස් හැ
විරිදිවූ සේනකුමාරතෙමේ පැමිනිරාජ්ජඇති විය. මල් උදා
58 කුමරහට යුවරාජපදවි දීන. පියහු සෙනෙවි සේනතෙමේ
ඒ රජු සේනාපතිවිය. ඒ රජතෙමේ සෙනෙවියා බලසෙන්
59 ගෙණ පසල්දනව් ගිය කල මව්වෙත විසූ තමා කිස්දෙවුන්
60 මලු මරවා තමා කීවෑක් කරණ මහාමලල උදානම් ඇමතියා
සෙනෙවිරත් කෙළේය.

61 එපවත් අසා සේන සෙනෙවිතෙමේ කිපියේව බලසෙන්
62 ගෙණ "සතුරන් ගන්නෙමි" කියා ආය. එකල රජතෙමේ

ඒ අසා තමා තීවා කළ ඒ ඇමතියාම තමහට ආරක්‍ෂාසී (ඇර
63 ගෙණ නුවරින්) නික්ම රුහුණු ගියේය. ඒ රජහු මෑනියෝ
නැවතී යුවරජුහා රාජිනිය ගෙණ උහුහා නොතිපියා සෙ
64 නෙවියා ගෙන්විය. ඒ සෙනෙවිතෙමේ මව්බිසවුන්විසින්
සඟුහ කරණ ලද්දේ දෙමළුන් රුස් කොට උන්ට දනව්ව අ
65 පොළොන් නරුවෙහි විසීය. ඒ රජතෙමේ ඒ සෙනෙවියාහා
යුදපිණිස රුහුණින් බලසෙන් එව්ය. සෙනෙවිතෙමේ රජ
66 හුගේ ඒ සියලු බලසෙන් වැනසී. ඒ දෙමළු රකුසන් සෙයින්
ජනපදය පෙළා මිනිසුන් සතුදෙය පැහැර ගණිති. එකල
67 බැගෑපත් මිනිස්සු රජුවෙත රුහුණු ගොස් එපවත් දැන්වූහ.
68 ඒ තෙමේ ඇමතියන්හා මනත්‍රණය කොට සස්නාහා රට රක්
නට ඒ (උදු) සෙනෙවියා හැර සේනසෙනෙවියාහා මිත්‍රසන්ධි
69 වය කොට පොළොන්නරුවට ගියේය. තමා වංශපාලනයට
(සෙනෙවියා) දුවක් මහේසිකා කොට කසුබ්නම් උතුම් කුම
70 රෙක් උපදවා ලංකාන්‍ද්‍රයා එහි වසන කල රජහට අපත්‍ය
කාරී වලලුහ ජනයෝ රා බොනු නොලබන්නෝ උහුගේ
71 වෛරී ඇදුරෝව මද්‍යපානයෙහි ගුණවණා ඒ රජහු පෙවූහ.
72 ඒ තෙමේ එකල මද්‍යපානය කොට මත් දිවියෙකු බඳුවිය.
ඒ රජතෙමේ ආහාරකෂයට පැමිත දුලීහ පදවිය හැර දශ
වන හවුරුද්දෙහි බාලපරායෙහිම මෙළේය.

73 යම් මනුෂ්‍යකෙනෙක් මෙලෝ පරලෝ සැප කැමත්තාහු
නම් ඔව්හු පාපමිත්‍රයන් තීවාතිරීම ඒකාන්තයෙන් පිරිහී
මට හේතුයයි මෙහින් ඉගෙණ බාල තැනැත්තහු බිහිසුනු
විෂයක්හු සෙයින් බැහැර කෙරෙත්වා.

මෙතෙකින් හුදීජනයාප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
තිරාජකනම්වූ සූපණස්වන අදියර නිමි.

---

# 55 වෙනි පරිච්ඡෙදය.

---

1 උහු ඇවෑමෙන් සියමල් මිහිඳු කුමරතෙමේ උතුම් අනුරා
පුර සේසත් නංවා සේනනම් සෙනෙවියා විසින් ගෙණෙ
2 න ලද නානාදෙශජනයාගෙන් ව්‍යාකුලවූ ඒ නුවර දුක
සේ දස හවුරුද්දක් වාසය කෙළේය. ඉවත්කළ නීතිමාර්‍ගී
3 ඇති සර්‍වප්‍රකාරයෙන් මෘදුවූ උහුට අයකොටස එකල ජන
පදවැස්සෝ නුදුන්හ. අතිසයින් ව්‍යසනහීනවූ ඒ රජතෙමේ
4 දසවන හවුරුදුයෙහි වැටුප් දීමෙන් සියසෙන් පොහොනට
5 නොහැකිවිය. පසුව නොලබනලද වැටුප්ඇති සියලු කේ
රළයෝ එක්ව අවුත් "අප වැටුප් දෑනය යම්තාක් නොවේ
6 නම් ඒ තාක් මේ නො නිමාව" යි රජගෙහි දොරකඩ අත්‍යන්ත
යෙන් නුදුසාහසිකක්‍රියාඇතිව දුනුගත් අත්හා සැරසුනු සිරි
අව් ඇතිව හුන්හ.
7 (රජතෙමේ) උන් රවටා හෘනසාර දෙය ගෙණ උමගකින්
පිටත්ව යුහුව රුහුණු ගියේය. ඒ තෙමේ (එහි ගොස්) සීදු
8 පබ්බතනම් ගම්හි කඳයුරක් බැඳ බෑයා බිරිඳු මෙහෙසිබැ
ව්හි තබාගෙණ එහි විසීය. ඒ බිසෑව් නොබෝ කලකින් මළ
9 කල ඒ රජතෙමේ සියබෑයා දියනියත් මෙහෙසිබැව්හි
තැබීය, ඒ දේවියගෙන් කසුබ්නම් කුමරු උපන්කල විසූ
කඳයුර හැර පසුව කපුගල්නම් ගම නුවරක් කරවා ගෙණ
10 අධිපතිබැව් පවත්වමින් රුහුණ බොහෝකල් විසීය. එකල
11 එයින් සෙසුතැන්හි කේරළය සිංහලය කර්‍ණාටය යන මොව්
12 හු කැමති පරිද්දෙන් අධිපතිබැව් පැවැත්වූහ.
13 ඉක්බිති අස්වෙළඳෙක් පරතෙරින් මෙහි ආයේ ලක්දිව්
පවත් (දැන) ගොස් සොළීරජහට දැන්වීය, බලී හේතෙමේ
14 එපවත් අසා ලක්දිව් ගන්නා කැමත්තේ මහත් බළසෙන
15 ගක් එවීය. ඒ සේනාතොමෝ වහා අවුත් ලක්දිව බැසගත.
ඒ සොළී බලසේනාතොම ගොඩබට තැන්පටන් බොහෝ
16 ජනයන් පෙළමින් අනුක්‍රමයෙන් රුහුණට පැමිනියා. ඒ
සොළීහු රජහු සතිස්වන වස්හි මෙහෙසිය රත්නායන ක්‍රමා
17 ගත ඔටුන්න එසේම සර්‍වාභරණය දෙවියන් විසින් දෙනලද
අමූල්‍ය විදුරුවලල්ල කැඩිය නොහැකි සිරිය කපනලද පටී

18 ධාතුය යන මෙතෙක් දෑහා හසින් වන දුර්ගයට වන් ඒ රජු
සමගි අඳහසක් දක්වා ජීවග්‍රාහයෙන් ගත්හ. ඉක්බිති ඒ
19 රජුද හස්තගත සියලු වසතුද සොළී රජුකරා යවූහ. (ඒ
20 සොළීහු) තුන්නිකාහි දෑගැබ්ද මුළුලක්දිව් තෙළෙහි මා
21 හැඟි නොයෙක් සවර්ණාදි පිළිබිඹුද එසේම ඒ ඒ වෙහෙර සි
යල්ලද ලාහෙලා බිඳගෙණ ඔජස් උරණ යකුන් සෙයින්
22 ලක්දිව්හි සාරය ගත්හ. ඒ සොළීහු පොළොන්නරුව ඈසි
රු කළෝ රක්පාන්කටනම්තැන හිම්කොට රජරට අනුභව
කළහ.

23 රටවැස්සෝ ඒ කසුබ් නම් කුමරහු ගෙණ සොළී හසින්
රක්නෝ ඉතා ආදර ඇතිව වඩති. සොළීරජ ඒ කුමරහු
24 දොළොස් ඇවිරිද්බැව් අසා උහු ගන්නා පිණිස පන්දහස
25 කින් අඩු යෝධයන් ලක්ෂයක් දී මහාබලඇති මහ ඇමත්
තන් මෙහෙයි, ඔව්හු මුළු රුහුණුරට ඔබමොබ කැලඹූහ.
26 ඉක්බිති මකුහමු වැසි කීර්ති ඇමතිතෙමේද එසේම මාරා
ගල වැසි බුඩ ඇමතිතෙමේද යන මහාවීරවූ යුද්ධොපායෙහි
27 විචක්ෂණවූ ඒ දෙදෙනා සොළීසෙන් නසන්ට අත්‍යර්ථයෙන්
කොටගත් නිශ්චය ඇත්තෝ පළුටුපාණනම්තැන කඳසුරු
28 බැඳ සමසක් යුද කොට බොහෝ දෙමළුන් මැරූහ. නසන
29 ලද්දවුන්ගෙන් ඉතිරිවූ සොළීහු ඒ යුදෙහි බියෙන් මිරිකු
නෝ පලාගොස් පෙරසෙයින් පොළොන්නරුවෙහි විසූ
30 හ.—එකල කුමරතෙමේ දිනූ ඒ ඇමතියන් දැක තුටුපහ
වුව "දරුවෙනි වර ගනුව" යි කීයේය. බුඩඇමතිතෙමේ
31 ප්‍රවේණිගම් වර ඉල්විය. කීර්ති ඇමති තෙමේ ගන්නාලද
32 සාංඝික අය හරණට වර ඉල්වීය. නිර්ඝිතිකවූ ආදරඇත්
තාවූ ඒ ඇමතිවරයෝ දෙදෙනා එකල උතුම් රජකුමරහු
33 වෙතින් වර ලැබ උහු පා වැන්දෙසි.—සොළින් විසින්
ගත් මිහිඳු රජතෙමේ දොළොස් හවුරුද්දක් චොළමඬලයෙ
හි වැස (ඔටුනු පැලඳි) අටසාළිස් වන්නෙහි පරලෝගියේසි.

34 මෙසේ ප්‍රමාදදෝෂානුගමනයෙන් ලබනලද්දවූද සම්පත්
ස්ථිර නොවෙති; එහෙයින් තමහට වැඩ පසස්නා මනා පැ
ණැත්තේ නිතොර අප්‍රමාදයෙහි යෙහෙන් හැසිරෙන්
නේය.

මෙතෙකින් හුදිජනයාප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
ලඞ්කාවිලෝපනම් පස්පණස් වෙනි අදියර නිමි.

# 56 වෙනි පරිච්ඡෙදය.

---

1 එකල සියලු සිංහලයෝ රජකුමරහට විකුම්බා යන නම්
2 කොට සාදරයෙන් උහු අණ වැටුනාහ. ඒ රජ දෙමළුන්
නසන්ට නොයෙක් පරිද්දෙන් වස්තු රැස් කොට සේවකය
3 න්ට සුදුසු පරිද්දෙන් සඞ්ග්‍රහ කෙරෙමින් අබරණ තිරුළු සේ
සත් සිහසුන් ආදිය කරවා ඇමත්තන් විසින් ආයාචනා කර
4 ණ ලද්දේත් "රජරට ගැන්මයම්තාක් නොවේනම් එතෙක්ම
මාගේ ඒ සේසත් නැගීමෙන් කිම්ද" යි අභිෂෙකය නවතා
5 මහා බල ඇති ඒ ක්ෂත්‍රියතෙමේ සියක්දහසක් මිනිසුන් එක්
කොට සඞ්ග්‍රාමාරම්භකාලයෙහි වාතරොගයකින් දැඩියේ පෙ
6 ළෙන ලද්දේ "යුඬයට කල්නොවේය" යි දොළොස්වෙනි
හවුරුදුයෙහි වහා දෙව්ලොව ගොස් දෙවියන්හා එක්විය.
7 සෙනෙවිරත් ධුරයෙහි සිටි කිත්ති නම් ඇමතිතෙමේ රාජ්‍ය
8 සා ඇත්තේ අටදිනක් සියඅණ පැවැත්විය—මහාබල ඇ
ති මහාලානකිත්තිනම් තැනැත්තේ උහු මරවා අභිෂෙකයට
9 පැමින රුහුණුරට අනුභවකෙරෙමින් තුන්වන හවුරුදුයෙ
හි සොළී යුදෙහිදී පැරැද්දේ ලාහෙලා සියඅතින් සිය හිස
10 සිඳගෙණ මෙළේය—එකල්හිද ඒ දෙමළු කිරීටාදි වස්තු
සාරය එක්කොට සොළී මිහිපල්හු වෙත යවූහ—විකුම්
11 පඬියයි ප්‍රසිඬ රජකුමරෙක් එකල බියෙන් සියරට හැර දුලු
දිව්හි වසන්නේ ලඞ්කා ද්‍රව්‍යභිඥ දත්තේ රුහුණු පෙදෙස්
12 අවුත් කළුතොට වෙසෙමින් වසක් රජය කරවි—එකල
13 රාමගොත්‍රයෙහි උපන් ජගත්පාලනමින් ප්‍රසිඬරාජපුත්‍රයෙක්
14 අයොධ්‍යපුරයෙන් ආයේ ඒ විකුම් පඬිහු රණභුමියෙහිදී මර
වා මහාබලඇති ඒ තෙමේ සතර හවුරුද්දක් රුහුණු රජය
15 කරවි. සොළීහු උහුද රණ බිම්හි මරා අියනියන් සහ බිස
16 වද සියලු ධන සාරයද සොළිරට යවූහ—ඉක්බිති පඬි
රජහු පුත් පැරකුම්නම් රජතෙමේ දෑවුරුද්දක් රජය කෙ
ළේය. සොළීහු යුද කොට උහුද මැරූහ.
17 අත්‍යර්ථයෙන් ලොභබලයෙන් අභිභූත මොව්හු සියල්ලෝ
විවසව විනාසගතවූහ. එහෙයින් පැණැත්තේ හැමකල්ම
මෙසේ බැව්දූන තෘෂ්ණාක්ෂයෙහිම ඇලුම් කරන්නේය.

මෙතෙකින් සුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවංශ
ඡරාජකනම් සපණස්වන අදිගර නිමි.

# 57 වෙනි පරිච්ඡේදය.

---

1 මතුහමුවැසි සත්‍යප්‍රතිඥඇති නිර්ව්කාරවූ සොළින් එඩි
2 මඩනා ලොකෙශ්වරනම් සෙනෙවිතෙමේ ජනයා මැඩ රුහු
ණු රට රජයට පැමිනා චාරිත්‍රවිධියෙහි දක්‍ෂවූයේ කතරගම්හි
වෙසෙසි.
3 එකල මහාබලඇති කීර්තිනම් රජකුමරෙක් විය. උහු වං
ශාදි සම්පත්තොම පිළිවෙළින් කියනු ලැබේ. කසුබ්රජහුපිත්
4 මාණනමින් ප්‍රසිඬවූ සත්පුරුෂාචාරයෙන් හෙබියාවූ ධීරවූ
ඇපාන්කෙනෙක් විය. තවද උහු දෙටුබෑ මහ පැණැති
5 මාණවම්මතෙමේ ගොකන් සමුදුරවෙත හෝඉවුර හිඳ විධිවූ
6 පරිද්දෙන් අශෙෂයෙන් කරණලද මනොත්‍රාපචාරඇත්තේ
අක්‍ෂමාලාව ගෙණ මතුරු දපන්ට පටන් ගත. වාහන ස
7 හිත කඳකුමරතෙමේ උහුපෙරට පහළවීල. මොනරතෙමේ
මුවතුඩින් බිලිතටුව බිඳ සිදුරුසහිත පොල්කබල දිය ගො
8 ස් වියලුනෙහි දිය නොදකිමින් මතුරණ උහු ඉදිරියට ආය.
9 එකල හේතෙමේ භාවිනි සිඬිදක්නේ සියනෙත උහුට එලවී,
10 ඒ මොනරද ඇස බිඳ වහා බීයේය. සතුටුවූ කඳකුමර ඒ කු
11 මරහු පැතු වරය දී බබලමින් ඉන් නැගී අහසින් ගියේය.
ඇමැත්තෝ බුන් එක්ඇස්ඇති උහු දැක බැගෑව හැඬූහ. හේ
12 තෙමේ වරලාභ පවසා ජනයා අස්වැසීය. ඉක්බිති ඒ ඇමති
යෝ ඊට සතුටුවූවෝ "අනුරාපුරට පැමිනා අභිෂෙක කටයුතු
13 ය" යි උහු ආරාධනා කළහ. "අඞ්ගවිකලවූ මට දැන් රජ
යෙන් කවර වැඩෙක්ද මම පැවිදිබවට පැමිනා තපස්කම්
14 කරන්නෙමි කණිටු මානතෙමේ ක්‍රමාගත ලක්රජය රකී
ව" යි හේතෙමේ තමහට පැමිනි රජය ප්‍රතික්‍ෂෙප කෙළේය.
15 එකල සර්වප්‍රකාරයෙන් උහුගේ චිත්තාචාර දත් ඇමත්තෝ
කණිටු කුමරහට එපවත් කියන්ට මිනිසුන් යවූහ. (හේ
16 තෙමේ) එපවත් අසා වහා අවුත් සියබෑයා දැක පාමුල වැටී
17 බොහෝකොට මුරගා හඬා දෙටුබෑයාහා අනුරාපුරයට ගි
18 යේ. දෙටුහු සිත් අනුව පවත්නේ එහිදී ඔටුනු දැරී. ඉක්බිති
19 අබයගිරියට ගොස් බුහුමන් පෙරදැරිව බෑයා පැවිද්ද එහි
20 යතින්ගෙන් ඉල්විය. එකල ඒ යතිහු විකලාඞ්ග උහුගේ පැ
21 විද්ද ශික්‍ෂාපදයෙහි ආදර නැතිව කළහ. උන්වහන්සේට
උත්තරෙලනම්වූ මහත් පිරිවෙණක් කරවා රජතෙමේ
22 ඒ පිරිවෙණ උන්වහන්සේ හිමි කොට එහි සසියයක් භික්‍ෂූන්

23 ඒ තෙරුන් අයත් කොට ඒ වෙහෙර උන්වහන්සේට පස් මෙහෙකරුවන් සත්සියයකුදු දීන. රජතෙමේ නානා ශිල්ප
24 කර්‍මයෙහි විචක්‍ෂණ දළදුරක්නා මිනිසුන්ද ඒ තෙරුන් අයත්
25 කෙළේය. බගිරි නකයෙහි භික්‍ෂුහු ඒ තෙරහු අවවාදකරු වූහ. රජතෙමේද ඒ තෙරහු අනුසාසනාවෙහි සිට ලොකපරි
26 පාලනය කෙළේය. ඒ වංශයෙහි උපන් කිසි මිනිස් කෙනෙක් පැවිදි අපේක්‍ෂානැතිව මහාසාමි යන පදය ඇසුරුකළෝ
27 කැමතිසේ වෙසෙති. දහම් නය දත් මේ මාණවර්‍මරජහුගේ අක්බෝ කුමර ආදී දරු මුනුබුරු ක්‍රමයෙන් පැවත ආ රාජ කුල මඤ්ඤකයෙහි උපන්නාවූ මනාකොට ලඞ්කායෙහි රාජ්‍යා නුශාසනා කරන්නෝ සමසොළොස් දෙනෙක් වූහ.

28 මිහිඳු රජු මයිල්හු දේවලාය ලෝකිතාය යන නමින් ප්‍රසිඞ ලාවන්‍යගුණෝපෙත දූන් දෙදෙනෙක් වූහ. ඒ දූන් දෙදෙ
29 නා අතුරෙන් ලෝකිතා කුමාරිකාතොමෝ මයිල්හු කුමරු නිසා කසුබ් නම් මනාකුමරෙක් ලද්දීය. ඒ තෙමේ මුගලන්ය
30 ලොකය යන නම් ඇති හොබනා පුතුන් දෙදෙනෙක් ලද.
31 ඔවුන්ගෙන් දෙටු කුමරතෙමේ ලෙව්සසුන්සිරිත්හි පඬිවූ
32 යේ මහාසාමියයි ප්‍රසිඞවිය. සඞ්ඛාපස්ථානයෙහි ඇලුනු නොයෙක් සාරගුණයන්ට වාසභවනවූ හේතෙමේ රුහුණු දනව්වෙහි වාසය කෙළේය.

33 දඨොපතිස්ස රජහුගේ මුනුබුරුකෙනෙක් සැදැහැත්තේ බුදු සස්න පැවිදිවූයේ ධූතගුණ ඇත්තේ සීලසංවරයෙන් යුක්තව හේතෙමේ ධතනාදියට මෙහෙයනලද සිත්ඇතිව
34 විවේකීව වනසෙනස්න වෙසෙයි. දෙවියෝ උන්වහන්සේ කෙරෙහි පහන්ව හැමතන්හි ගුණ වැණූහ. එකල ලඞ්ක ශවරතෙමේ හැමතන්හි පතළ ගුණ අසා උන්වහන්සේ ක
35 රා එළඹ වැඳ තමන්ට අනුශාසනා කරණුපිණිස ආරාධනා කෙරෙමින් නො කැමති උන්වහන්සේ නැවත නැවත
36 යාච්ඤකොට වඩාගෙණවුත් මොනවට කළපහයෙක්හි ඒ තෙරුන් වස්වා එහි වසන ඒ යතීශ්වරයාගේ ගුණයෙහි
37 පහන් රජතෙමේ ඒ තෙරුන් අනුශාසනා මාර්‍ගයෙහි පිහි ටියේ දැහැමින් ලෝක පාලනය කෙළේය. එකල ලඞ්කාශ්ව
38 රයා විසින් මනාකොට කළ ආරාධනා සඳහා දයානුගත ඒ යතීන්‍ද්‍රතෙම ගලතුරුමූල (වෙහෙරින්) නික්ම යම් තැනෙක භික්‍ෂූන් රැස්කොට යම් හෙයකින් වාසයකළ සේක්ද එ
39 හෙයින් ඒ විහාරය සෙලන්තරසමූහයයි ප්‍රසිඞියට ගියේය. එතැන් පටන් රාත්‍රියෙහි දෙවොල වස්වා දෙවියන්විසින් අනු

මත කළ භික්ෂුකෙනෙක් මුල්තන්හි තබත්මැයි මුල්ව වසන
40 යතින්ගේ අනුශාසනාවෙන් ලෙව්සසුන් රකිමින් ලඞ්කෙ
ශ්වරයෝ පවතිති.

41 ඒ දූඨොපතිස්ස රජහුගේ වංශයෙහි උපන් බොධිනම් රජ
කුමරහු නිසා එම වස උපන් බුඩානම් කුමාරිකාතොමෝ
42 වරලක්ෂණ ඇති ලොකිතානම් දියනිකෙනෙක් ලද. ඕතො
43 මෝ මූගලන්කුමරහට සුදුසුකල පාවා දුන්නිය. ඒ කුමාරි
කාතොමෝ උහු නිසා කිත්තිනම් කුමරෙක්ද මිත්‍රානම් කුම
44 රියක්ද එසේම මිහිඳුය රක්ඛිතය යන කුමරුන්දෙදෙනෙක
මෙසේ දරුවන් සතරදෙනෙක් ලද්දිය........ඔවුන් අතුරෙන්
දෙටු කුමරතෙමේ ධීරය වීරය තෙළෙස්හැවිරිදිය වෙසෙසි
45 න් ධනුශ්ශිල්පයෙහි කෘතහස්තය පසුව නේතෙමේ "සතුරු
උවදුරු දුරලා ලක්දිව කෙසේ ගණිම්දෝ" යි චින්තාපරවසව
මුල්සලනම් ගම විසීය.

46 එකල වීරවූ මහබලඇති බුඩරාජයයි ප්‍රසිඩයෙක් ලොකෙ
ශ්වර සෙනෙවියාහට විලොමවර්ත්තීව සූන්සල්නම් දනව්වට
47 වහා පලාගියේය. එහි වැසි කිත්තිආදී නොයෙක් ජනයන්
සර්වප්‍රකාරයෙන් තමා වසඟයෙහි පවත්වා සඟ්‍රාම සූරවූ බො
48 හෝ නෑයන්හා සමගව දුළුසහවූයේ මලය පර්වත පාද
49 යෙහි එකල විසීය. සඞ්ඝනම්වූ ගණකනායකතෙමේ උහු
50 වෙත එලඹ කුමාරයාගේ ඇතිසැටි මනාකොට කීයේය.
"මාහිමියා දෙටුපිත් කිත්තිනම් කුමරතෙමේ පුණ්‍යලක්ෂණ
51 යෙන් යුක්තය. උතුම්වූ බුද්ධිහා වික්‍රම ඇත්තේය, දඹදිව්හි
රාජ්‍යය එක්සත් කරන්ටත් උහු සමර්ථයයි සිතම් ලක්දිව්හි
52 කියනුම කිම" ඒ තෙමේ උහු බස් අසා කුමරතෙමේ සේවා
කටයුතුයයි නිශ්චය කොට කුමරහු වෙත මිනිසුන් යැවීය.
53 උන් බස් අසා වලකන භයින් මව්පියන් නො දන්නාකලම
දුනුපමණක් සහාය කොට ඇති වීර ඒ කුමරතෙමේ ගෙන්
54 නික්ම නොයෙක් පරිද්දෙන් පසස්නා නිමිති දකිමින් නො
පමාව සිරිවගපිටියට ගියේය. මහා නැණැති වීරවූ ඒ තෙ
55 මේ එහි වෙසෙමින් සිය සේවායන් යවා පසමිතුරන් සිටි බෝ
56 වළනම්.ගම දිනුයේය. ඉක්බිති අබිමන් ඇති ලොකෙශ්වර
සෙනෙවිතෙමේ සෙනගක් එහි යැවීය. ඒ සේනාතොමෝ
57 ඒ ගමවටලා යුඩාරම්භකළා. ව්‍යක්තවූ වික්‍රමඇති මනා භ
ටයන් ගෙන් යුත් ඒ කුමාරතෙම උන්හා යුඳ කෙරෙමින් සි
58 යල්ලන් සැඩපවන පුළුන්සේ (ඒ ඒ) දිග විසිරවී. එකල ස්ථා
න දන්නා කුමාරතෙමේ සුණුවල් දනව් ගොස් එහි වෙසෙ
59 මින් සියලූ මලයමඩලය තමා වසඟයෙහි කොටපීය. එකල්

හිද සෙනෙවිතෙමේ නොයෙක් වර සියසෙන් යවා ඒ කුම
රහු අභිභවනය කරන්ට නොහැක්කේ දෞර්මනසට පැමි
නියේය.

60 ඉක්බිති මකුහමුවැසි කිත්ති ඇමතියාපුත් දේවමල්ලයයි
61 ප්‍රසිඩයෙක් බන්‍ධුමිත්‍රයන් කැටිව බොහෝවූ රුහුණුවැස්සන්
ගෙණ අවුත් ආදරසහිතව කුමරහු දුටුයේය. පණර වස්ඇති
62 මහා යසසින් යුත් සමජු ඒ කුමාරතෙමේ එහිදී සිරිය බැඳ
63 ඇපා තනතුරට පැමිනියේය——මහබලඇති ඒ කුමරතෙ
මේ හිරණ්‍යමලයට අවුත් එහි රෙමුණුගල කඳසුරු බැන්
64 දේය. සෙනෙවිතෙමේ එහිද සෙන් එවා යුද කරවන්නේ
65 ජය නො ලැබ ඉන් මතු යුඩයක රිසි හළයේය. එකල ලො
66 කනාථනම් සෙනෙවිතෙමේ සිය ලෙව් හැර සවන වස පර
67 ලෝ පරායණ විය.

68 එකල්හි කසුබ්නම් කෙසධාතුක නායකවූ එක්කෙනෙක්
ජනයා මැඩ රුහුණ සිය අණ පැවැත්විය. එකල සොළී
69 සාමන්‍තතෙම එ පවත් අසා පොළොන්නරුවෙන් නික්ම
යුඩයට සැරසී කතරගමට ගියේය. එකල කෙස්දානාතෙ
70 මේ යුඩයෙහි දෙමළ බලසෙන් බිඳ රක්පහන් සීමායෙහි
71 ආරක්‍ෂක මිනිසුන් තබා ලබනලද ජයින් ඔදවැඩිව මහසෙන
ගින් පෙරටුකරණලදුව ශෞර්‍ය්‍යභාවොපලක්‍ෂිතව පෙරලා
අවුත් කතරගම් නුවරට වන.

72 ඉතා තිර ඉසුරුගුණඇති ඇපානෝ එපවත් සියල්ල අසා
කෙස්දනන් නසන්ට යුහුව බලසෙන් සැරසූය. අතිශයින්
73 අබිමන් ඇති හේතෙමේ එපවත් අසා සියලු බලසෙන් ගෙණ
ඉන් පිටත්ව සිප්තලට ආයේය. පස්යොදුන් ආදී රට වැසි
74 ඉතා බොහෝ මිනිසුන් ගෙණ අතිශයින් පැරදවිය නො
හෙන රජකුමර සම්පවන කල ඒ කෙස්දනාතෙමේ බො
75 හෝ රටවැස්සන් (තමහට) නො සතුටු බැව්දැන "මෙහි යුද
උගහටය"සි සිතා බදිරඩිගණ්යට ගියේය. සොළොස්වස්ඇති
76 ඒ මිහිපල් කුමරද මහසෙන් සමග පහවූ බියඇත්තේ කත
77 රගම්නුවරට වන——රුහුණ සමසක් අනුභව කොට රෙස්
78 මනස් ඇති කෙස්දනාතෙමේද යුදප්‍රණීස එහි ගියේය, ඉක්
බිති රජකුමරහු මහබලඇති සේනාතොමෝ රළුසුද පවත්
වන්නි කෙස්දනාවන් හිස ගත්තාය.

79 මේ කුමරතෙමේ සතළොස් හවුරුදුවියපැමින සියලු තැන
පතළ මහයසකිත්හා තෙද ඇත්තේ සාමාදී නොයෙක් විදි
යෙදුම් විශෙෂයෙහි දක්‍ෂවූයේ ඒ මුළු රුහුණ සතුරුකටු
උපුටා නැති කෙළේය.

මෙතෙකින් හූදී ජනයාප්‍රසාදසංවෙගපිණිස කළ මහවස රෝහණරාති විජයනම් සත්පණස්වන අදියර නිමි.

---

# 58 වෙනි පරිච්ඡේදය.

---

1 ඉක්බිත්තෙන් යුවරජ පදවියෙහි සිටි නයදන්නාවූ උහු
2 ගේ නම විජයබාහුයයි සැමතන්හි පතළවී. මහ නුවනැත්
3 තේ එහි සියඅණින් බෙර හසුරුවා නොයෙක් ඇමතියන් සුදුසු තනතුරෙහි තබන්නේ චතුරවූ (හෙතෙමේ) රජ රට
4 වසන්නාවූ සොළින් මඩනා පිණිස සිටූ උපායොදමින් එහි
5 විසී— සොළිරජතෙම ඒ අසා පොළොන්නරුවෙහි සිටි යාවූ (සිය) සෙනෙවියා බල වාහන් දී යැවී. කතරගම ලගට පැමිනි සෙනෙවියා පැරදවිය නොහැක්කැයි දැන (මහ ඇපාතෙමේ) එතැනින් පර්වතදුර්ගයට ගියේයි.
6 සෙනෙවිතෙමේ වේගයෙන් කතරගම පැහැරගෙණ එහි වසන්ට නොහැක්කේ නැවත සියදෙසට ආයේය. ඉක්බිත්
7 තෙන් මහ ඇපාතෙමේද පර්වතයෙන් වහා අවුත් මහත්වූ සේනා සමූහයක් සමග සිප්තල විසී. (මහාදිපාද) රජතෙ
8 ම රාමඤ්ඤරට රජුකරා බොහෝ ජනයන්ද බොහෝ සාරවූ
9 ධනසමූහයක්ද යැවී. විසිතුරු වස්ත්‍ර කපුරු සඳුන්ආදී වතින් සම්පූර්ණවූ(එවනලද)නොයෙක් නැව් තොට රුස්වූහ. නො
10 යෙක් ධනජනයෙන් යොධයන් සඟුහකරන්නේ ඉක්බිති ම
11 හාසේනා ඇතිව තම්මලනම් ගමෙහි විසී. රජරට වැසිවූ ජන යෝ ඔවුනොවුන් විරුඩබැවින් සියල්ලෝ එලඹ සර්වප්‍රකාර
12 යෙන් සුංවත් නොදෙති. සොළිරජහට විපක්ෂවූවෝ ඒ අණ බිඳ මදයෙන් උඩඟුව සුංවත් ගන්නා රාජපුරුෂයන් වෙ
13 හෙසමින් කැමතිසේ හැසිරෙත්— ඒ අසා බලවත් කෝප යෙන් වසඟකරණලද්දවූ සොළිරජතෙම මහාසේනාවක් දී
14 සියඇමතියා පිටත් කෙළේය. මහතොට බැස්සාවූ හෙතෙම ඒ ඒ තැන බොහෝ ජනයන් නසමින් රජරට වැස්සන් තමා
15 වසඟකොට කෲරවූ ආඥාඇත්තේ පිළිවෙළින් රුහුණට ගො ස් සෙනාසහිතවූයේ බුන්වෙරලැති සාගරයමෙන් පතළේය.
16 රවිදේවචලය යන නම්ඇත්තාවූ මහබලැත්තෝ දෙදෙනා රජහට සතුරුව දෙමළසෙනෙවියා වසඟවූහ.

17 සේනාපතිතෙම මහත් පක්‍ෂබලයුක්තවූ ඔවුන් දැක සියලු
18 රුහුණුරට වහාම තමාහඃනප්‍රාප්තවූ සෙයින් සිති. ඒ රජ
තෙම එකොළොස්වෙනි වසෙහි සොළින් මැඩපැවැත්වීම
19 පිණිස පලටුපාණ දුර්ගයක්කොට එහි විසී...... සොළිසේනා
නොමෝ එකල්හි ඒ පර්වතය හාත්පසින් වටකළාය එහි
උභය සේනාවන්ගේ භය උපදවන්නාවූ යුඩයක් විය.

20 රජහුගේ යෝධයෝ ඒ සියලුම දෙමළසේනාව වනසා ප
ලායන්නාවූ මහසොළි සාමන්තයාද ලුහුබැඳ තඹවිටිනම්
21 ගමෙහිදී යානවාහනහා සාරවූ වස්තූන් සමග උහුගේ
22 හිස ගෙණ ගන්නාලද සියලු බඩුගෙණවුත් රජහට දක්වා
"පොළොන්නරුවට යන පිණිස කල්ය" යි කීහු. මිහිපල්
23 තෙමේද ඇමතියන් බස් අසා එකල්හි මහාසේනා සමූ
හයාහා සමග පොළොන්නරුවට ගියේයි. සොළිරජ තෙම
24 මේ සියලු පවත් අසා තියුණු කොප වසඟවූයේ මිහිපල්හු
අල්වාගණු කැමැත්තේ වියඞ්ඇතිව තෙමේම වහා මුහුදුපටු
25 නට අවුත් බොහෝ සෙයින් මහා සෙනගක් ලක්දිවට එවී.

26 රජතෙමේ ඒ දැන සොළිසේනාවහා යුදකරණුපිණිස මහ
27 සේනාවක් දී සියසෙනෙවියා යැවී. යනනාවූ ඒ සේනාපති
තෙමේ අනුරාධපුර සමීපයෙහි දෙමළසේනාවහා සමග
මහත්වූ යුඩයක් පැවැත්වී.

28 ඒ යුඩ යෙහිදී රජහුගේ බොහෝ මනුෂ්‍යයෝ වැටුනාහ. ඒ
29 රටවැස්සෝ නැවතත් දෙමළුන් අයත්වූහ. එකල්හි මිහි
30 පල්තෙමේ පොළොන්නරුව හැර වේගයෙන් විල්ලිකාබා
නනම් රටට පැමින, එකල්හි ඒ රටෙහි සිටිය ඇමතියන්දෙ
දෙන නසා සියබළන් රැස්කෙරෙමින් එහි වාසය කෙළේය.

31 සොළිසෙනෙවියා තමන් ලුහුබඳින්නා අසා කල් දන්
32 නාවූ රජතෙමේ වාතගිරිනම් පර්වතයට ගොස් ඒ පව්වවෙන
බලකොටු පිහිටුවා තුන්මසක් යුද කරන්නේ දෙමළුන්
33 පසුබැස්වී...... පෙරයුඩයෙහිදී මරණලද කෙශධාතුකනම්
අධිපතියාගේ බාල සොහොයුරුතෙමේ එකල්හි පැමිනි ම
34 හත් පක්‍ෂබල ඇත්තේ සිය සෝහොයුරා මැරවීම සිහිකෙරෙ
මින් රෙස් සිත් ඇත්තේ සියලු ගුත්හල් මඩුලල විපයඞ්‍ර්‍යාස
කෙළේය.

35 ඉක්බිති මහත් බල ඇත්තාවූ ලඩෙකශ්වරතෙම වහා එහි
36 ගොස් මරුතලානම් තන්හි කඳවුරු බැඳ උහු යුදයෙහි බ
දිරඹගණියනම් දුර්ගයෙන් පලවා යුදකරන්නේ කුඹුලගල්
ල නම් ස්ථානයෙන්ද පහකෙළේය.

37 පුත්‍රදූරාදී සියල්ලද නොයෙක් ධනයද සේනාවද හැර පලා
යන්නාවූ හෙතෙම සොළීන් අයත්වූ රටට වහා ගියේය. එ
38 කල්හි නරේශ්වරතෙම එහි තුබූ උහු සතු සියලු ධනය ගෙණ
ගොස් තම්බලනම් ගමෙහි අභිනව දුර්ගයක් පිහිටවා
39 පිළිවෙළින් ගොස් මානාභූලනම් පුරයෙහි සොළීන්හා යුද
කරණට සේනාවක් මොනවට සදමින් විසී.
40 ඉක්බිත්තෙන් රජතෙමේ මහබලැති ඇමතියන් දෙදෙ
නෙකු කැඳවා එහි ජනයන් වසගකරණු පිණිස දකුණු පසට
41 යැවී——ඉක්බිත්තෙන් අධිපතිතෙමේ කර්කශවූ මහ ඇමති
දෙදෙනෙක් සොළීන් අබිමන් වනසන පිණිස වෙරල මහ
42 මග යැවී. දකුණු පසට යවනලද්දූවූ මහබලැති ඒ ඇමති
යෝ දෙදෙන මුහුන්නාරුගම්නම්වූ දුර්ගයද බදලත්ලද වෑ
43 නරුනම් බලකොටුවද බුද්ගමුවද තලගුලද මහගලද මඩ
44 ගල්ලද අනුරාධපුරයද යනමේ ස්ථානයන් ක්‍රමයෙන් ගෙණ
45 රටවැස්සන් තමන් වසෙහි පවත්වමින් මහතොටට පත්
වූහ. ඉක්බිත්තෙන් වෙරල මහමග යවනලද ඇමති දෙ
46 දෙන වනාහි ඒ ඒ තැන සගම ආදිවූ කඳවුරු පැහැර ග
ණිමින් පිළිවෙළින් පොළොන්නරුවවෙත පැමිනා "මෙහි
47 වඩනට වටනේය"යි නරේන්ද්‍රයන් කරා දූතයන් යවූහ. දෙ
දිසාවෙහි ගියාවූ ඇමතියන් විසින් පවත්වනලද වික්‍රමවිශෙ
48 ෂය අසා කල්දන්නාවූ ඒ මිහිපතිතෙමේ විධි දක්ෂවූයේ වහා
49 ම සමගිවූ සේනාව සන්නද්ධකොට සොළීන් උපුටන පිණිස
ඒ නුවරින් නික්මිනා. අධිපතිතෙමේ ගහින්යමින් මියුගුණු
දූ ගැබ සමීපයෙහි සේනා නිවෙසය කරවා ස්වල්ප කාලයක්
50 එහි විසී. ස්ථානදන්නාවූ මහාවීරතෙම පිළිවෙළින් අවුත් පො
ළොන්නරුව සමීපයෙහි ස්ථිරවූ යහපත් කඳවුරක් බැඳවී.
51 ඒ ඒ තන්හි සිටියාවූ ශූර කර්කශවූ සියලුම ඒ සොළී ජනයෝ
පොළොන්නරුවෙහි යුදකරණ පිණිස රැස්වූහ. සොළීහු
52 නුවරින් පිට නික්ම ගොස් මහ යුදයක් කොට පැරද
භය ඇතිව සිය නුවරට පිවිස වසනලද සියලු පූරදොර
53 ඇතිව බිහිදොර අටලු ඇසුරු කළාහු බොහෝවූ උත්සාහ
54 ඇත්තාහු බිය එලවන්නාවූ මහයුදයක් පැවැත්වූහ. ඒ
නුවර වසාගෙණ එක් මස් පසළොස් දිනක් යුදකරන්නාවූ
මිහිපල්හුගේ මහාසේනාතොමෝ (අර්ථය) සිදුකරණු නො
55 හැකිවී. මහරජහුගේ මහත්වූ වීර්‍ය්‍යඇති මහාශූරවූ මහා
බලැත්තාවූ මහාමාන ඇත්තාවූ රවිදෙවචල ආදිවූ මහා
56 යෝධයෝ පව්රපැන බලාත්කාරයෙන් පූරයට පිවිස ක්ෂණ
යකින් සියලු දෙමළුන් මුල්නැසීම් වසයෙන් මැරූහ.

57 මෙසේ ලත් ජය ඇත්තාවූ මහත්වූ නුවනැති ඒ විජයබාහු
58 නම්වූ රජතෙම එකල්හි සියඅණින් නුවර බෙරහැසිරවී·
සොළීරජතෙම ස්වකීය සේනාවගේ ඒ විනාසය අසා සිංහල
යෝ බලවත්යයි සිතා නැවත සේනාව නො එවිය.

59 උඩගු සොළී ශ්‍රෙෂඨයන් නිරවශෙෂයෙන් නැසුවාවූ ඉතා
මනාකොට තබනලද රජරට ඇති පැණැති වීරවූ රාජශ්‍රෙ
ෂඨතෙම ඉෂටවූ අනුරාධ පූරවරයට අතිශයින් සතුටුව පස
ළොස්වෙනි වසෙහි සම්ප්‍රාපතවූයේය.

මෙතෙකින් භූදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
අනුරාධපූරාභිගමන නම්වූ අටපණස්වෙනි අදියර නිමි.

---

# 59 වෙනි පරිච්ඡේදය.

---

1 (ඒ නරෙශවරතෙම) ලඞ්කාව ආරක්ෂාකරණ පිණිස යොධ
2 සම්මතවූ බලවත් ඇමතියන් කටයුතු උගන්වා හාත්පස
යෙදී. අබිසෙස් මගුල්පිණිස ප්‍රාසාදාදිවූ නොයෙක් කළමනා
3 සම්පාදනය කටයුතුයයි ඇමතියෙකුට නියෝග කොට ඒ
පියසෙහි වැඳියයුතුවූ නොයෙක් චෛත්‍යයන් වඳිමින් තුන්
මසක් ගෙවා පොළොන්නරුවට නැවත පැමිනියේයි.

4 ආදි මලයනමින් ප්‍රසිඬවූ සේනානායකතෙම මහීපාලයා
5 හට සර්වප්‍රකාරයෙන් ඉදුරාම විරුඬව සියලුම සේනාව ගෙණ
මදවූ නුවනැත්තේ යුඬපිණිස නුවර සමීපයෙහි අඤ්ඤනමින්
6 ප්‍රසිඬවූ ගමට ආයේය—ලඞ්කෙශවරතෙම එහි ගොස් උඩ
ගුවූ උහු උදුරා ඒ සේනාව තමා වසග කොට පොළොන්න
7 රුවට සම්ප්‍රාපතවූයේය. මිනිසුන් කෙරෙන් අතිශයින් උතු
ම්වූ ප්‍රඥාසහිතවූ හේතෙමේ යුවරජ පදවිය ඇසුරුකෙළේම
සතළොස්වස ලියවී.

8 ඉක්බිති විධිවූ පරිද්දෙන් අනුරාධ පූරයට පැමින විදහන්
දන්නේ අබිසෙස් මග සැණකෙළි සුවය අනුභව කොට පාප
9 ධර්මයන්හි නොපිහිටියාවූ ශ්‍රෙෂඨකර්මයෙහි පිහිටියාවූ හෙතෙ
ම මනාකොට පිහිටියේ අටළොස්වෙනිවස ලියවී—ඉක්
10 බිත්තෙන් අවුත් උතුම්වූ පොළොන්නරුවෙහි සිරිසඟබෝ
11 යන නාමයෙන් ප්‍රසිඬවූ හෙතෙම විසී. හෙතෙම බාල සො
හොයුරුවූ වීරබා කුමරහු යුවරජතන්හි පිහිටුවා දකුණු
දෙසදී විධිවූ පරිද්දෙන් උහුට සඟුහ කෙළේය.

12 යලිත් රජතෙමේ කිස්දෙවුන් සොහොයුරුවූ ජයබා කු
13 මරහට ඇපාපදවිය දී රුහුණුරටද දීන. සියලු ඇමතියන්ට
සුදුසු පරිද්දෙන් තන තුරු දී රාජ්‍යයෙහි යුක්තිවූපරිද්දෙන්
සුංකම් ගන්ට යෙදී.

14 කරුණාධාරවූ පිහිටියාවූ ධර්‍මඇති හේ මිහිපතිතෙමේ
බොහෝකල් පිරිහුනාවූ අධිකරණ විනිශ්චය දහම්වූ
15 නියාවෙන් පැවැත්වී. මෙසේ මැනවින් සතුරුකටු
මුළු උදුලාවූ නරනිඳුහු මනාකොට ලඞ්කාරාජ්‍යය අනුසස්
16 නාකල්හි ඡත්‍රග්‍රාහකනායකතෙමේද දහම්ගෙය අධිපති
තෙමේද එසේම සිටුනාතෙමේද යන සහෝදරවූ මේ තුන්
17 දෙන රජහට විරුඬබවට පැමිනියාහු දඬදිව් පලාගියෝ එ
18 කුන් විසිවෙනි වසෙහි ලඞ්කාවට බැස්සාහුය. ඒ සියල්ලෝම
රුහුණුරටද එසේම මලයරටද සියලුම දකුණුපසද වහා
19 පෙරලූහ. දක්‍ෂවූ රජතෙම රුහුණටද එසේම මලයමඬල
20 යටද ගොස් ඒ ඒ තන්හි සතුරු ජනයන් නසන්නේ මනා
කොට එය සන්සිඳුවා එහි ඇමතියන් තබා උදාරවූයේ මහා
21 සේනා ඇතිව දකුණුදෙසට තෙමේ ගොස් සමණිහාතුවංශ
යෙහි උපන්නාවූ ඇමතියෙක් එකල්හි යවා වීරතෙමේ බිය
22 කරුවූ යුදෙහි තමා සතු රුවූ උත් ග්‍රහණයකොට උලඉඳුවා
ලඞ්කාව නිෂ්කණ්ටක නිස්සන්තාප කරවා පොළොන්නරුවට
23 ආයේය.——සොළී රටවාසය කළ ජගතීපාල මෙහෙසී
24 තොමෝ සොළින් අතින් මිදී ලීලාවතිනම්වූ දියනි කුමරිය
සමග වේගයෙන් නැව්නැගී ලක්දිව් බැස්සා එකල ලඬකා
ශ්වරයන් දිටී.

25 රජතෙම ඇය කුලපිළිවෙළ අසා ශුඬවංශයෙහි උපන්
බැව්දැන ලීලාවතිය මෙහෙසීබැව්හි අභිෂෙක කෙළේය. ඒ
26 මෙහෙසීතොමෝ රජහුනිසා දුවක් ලැබීය. ඒ කුමරියට
27 රජතෙමේ යසොධරායයි නම් කෙළේය. රජතෙමේ මේ
රුකතුරනම් රට සමග ස්වකීයනෑනිය වීරවර්‍මකුමරහට
28 දීන. ඕතොමෝ දූන් දෙදෙනෙක් ලද්දීය. ඔවුන් දෙ
දෙනා අතුරෙන් ඒ වැඩිමාල් තැනැත්තී මිත්තනියට සමා
නවූ (ලිලාවතී) නම්විය, බාලතැනැත්තී සුගලා නම්විය.

29 කලිඟුරජ පරපුර උපන් යහපත් දැකුම් ඇත්තාවූ තිලෝ
30 සොඳුරුනම්වූ සිව්මැලිවූ කුමරියක් රජතෙමේ කලිඟුරටින්
ගෙන්වා ස්වකීය වංශයාගේ චිරස්ථිතිය පතන්නේ මෙහෙසි
31 බැව්හි අභිෂෙක කෙළේය. ඕතොමෝ සුභද්‍රානම්වූද, සුමි
ත්‍රානම්වූද, ලෝකනාථානම්වූද, රතනාවලීනම්වූද, රූප
32 වතීනම්වූද, යනමේ දූන් පස්දෙනාහා පිනැති ලකුණු ඇත්

තාවූ වික්‍රමබාහුනම්වූ පුත්‍රයාද ලැබී. ද්‍රජවෙන් අභිවෘඩ්
33 යට පත්වූ ඕතොමෝ රජහු සිත්ගත්නී විය. සමකුල ස්ත්‍රීන්
හැර සෙසු අන්තඃපුරයන්හි ඒ රජහුනිසා ගර්භයක් කිසිකලෙ
කත් නොපිහිටියේය.

34 නැවත එක් දවසෙක්හි ඇමති සමූහයා මැද පැමිනි ලකු
35 ණු දන්නා ඒ රජතෙම පිළිවෙළින් සිටියාවූ සියලු දූන් බලා
රතනාවලියහැර අවශෙෂවූ දූන්ගේ පින්ලකුණු පිරුණු පි
36 තෙකු ඉපදීම ප්‍රකාශකරන්නාවූ ලකුණක් නොදක්නේ ප්‍රෙ
ම වෙග ඇත්තේ රතනාවලිය කැඳවා ඇයහිස සිඹ තෙජෝ
37 ගුණයෙන්ද පරිත්‍යාගයෙන්ද ප්‍රඥවෙන්ද සූරබැවින්ද පූර්‍ව්‍ව
යෙහි ඇතිවූද මතු ඇතිවන්නාවූද සියලු රජදරුවන් ඉක්
38 මවා මුදුන්පත් වන්නාවූ සතතයෙන් ලඞ්කාව නිශ්ශංකද
එකසත්ද කරන්ට සමත්වූ මනාකොට ශාසනය පාලනය
39 කරන්නාවූ යහපත් නොයෙක් වත් ඇත්තාවූ පුත්‍රයෙකු උ
ත්පත්තියට ස්ථානය මැය කුසයවන්නේයයි හෙතෙම ප්‍රෙම
40 යෙන් මෘදුකොට කීයේය. වංශාභිමාන ඇත්තාවූ ඒ රජ
තෙම නොයෙක් පරිද්දෙන් යාච්ඤාකරන්නාවූද සොළීරජ
41 හට නැගනිය නොදී පිරිසිදු වංශයෙහි උපන්නාවූ පඞ්
රජෙක් ගෙන්වා හෙතෙම මිත්තානම් නැගනිවූ රුජන ඕ
හට දින.

42 ඕ තොමෝ මානාභරණ නම්වූද, කිත්තිස්සිරිමෙඝනම්වූද,
43 සිරිවල්ලභනම්වූද, පුතුන් තුන්දෙන ඉපදවී. මිහිපල්තෙම
44 සුභද්‍රාව වීරබා කුමාරයාටද සුමිත්‍රාව ජයබා කුමාරයාටද
මහ පෙරහරින් දින. රතනාවලීනම් දුව මානාභරණ කුම
45 රහට දින. හෙතෙම ලොකනාථානම් දුව කිත්තිස්සිරීමෙඝ
කුමරහට දින. හෙතෙම රූපවතීනම් දියනිය මළකල්හි
46 සුගලානම් කුමරිය සිරිවල්ලභනම් කුමරහට දින. සිංහපුර
යෙන් ආවාවූ මෙහෙසියගේ නැවූ මධුකාණ්ණවය, භීමරාජය
බලාත්කාරය, යන නම්ඇත්තාවූ රාජපුත්‍රයන් දැක එකල්හි
47 හටගත් ප්‍රීති ඇත්තාවූ ඒ මිහිපල්තෙමේ ඔවුන්ට සුදුසුවූ වැ
48 ටුප් වෙන්වසයෙන් දින. ලැබූසත්කාර සම්මාන ඇත්තාවූ
ඒ සියල්ලෝ මිහිපතිහු සතතයෙන් සතුටු කරමින් ර්සිසේ
49 විසූහ. මේ රාජපුත්‍රයන්ගේ සුනාරීනම්වූ නැගනිය ස්වකීය
වංශයාගේ ස්ථිතිය ප්‍රාර්‍ථනාකරන්නේ වික්‍රමබාහු කුමරහට
දින,

50 එකල්හි නෑයන්ගේ වැඩෙහි බෝහොසේ ඇලුනේ
යලිදු වික්‍රම්බා කුමරහට යහපත්වූ ලීලාවතිය හොගස
මග දින.

51 නිරවශෙෂ වසයෙන් භොගයෙන් සමෘඬවූ ඒ රජතෙම
බන්ධුජනයන් මෙසේ පිහිටුවා කරුණා පරවූයේ නීතිමාර්‍ගී
යට සුදුසුසේ නෑජනයන්ගේ වැඩ කෙළේය.

මෙතෙකින් හුදීජනයාප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
සගහකරණනම්වූ එකුන්සැටවෙනි අදියර නිමි.

---

# 60 වෙනි පරිච්ඡෙදය.

---

1 ඒ මිහිපතිතෙම කුලවත් දනන් තෝරා ආචාරවූපරිද්දෙන්
2 තමන්රැකවරණෙහි යෙදී. පොළොන්නරුවෙහි නොයෙක්
දොරටුවලින් යුත්වූ සුණුවම්න් මනාකොට රැදියාවූ හාත්ප
3 සින් දිගුපුලුලැති ගැඹුරු දියඅගලකින් යුක්තාවූ උස් සමම
එවකින් උපෙතවූ සතුරන් විසින් නොනැසිය හැක්කාවූ
තුඟු තහවුරු පවුරක් කරවී.
4 උපසම්පදා කර්‍මයට ගණපූරක භික්ෂූන් නොපොහොනා
5 බැවින් බුදුසසුන් පැවැත්මෙහි කැමති සිත් ඇත්තේ ඉක්බි
ත්තෙන් රාමඤ්ඤරට අනුරුඬනම් රජුවෙත පඬුරු සහිතවූ
6 දූතයන් යවා ඒ රටින් තුන්පිටකයෙහි පරතෙරට ගියාවූ ශීලා
දී ගුණයන්ට ආවාසවූ ස්ථවිරසම්මතවූ භික්ෂූන් ගෙන්වා ඒ
7 රජතෙමේ උන්වහන්සේලා උදාරවූ පූජයෙන්පුදා නොයෙක්
8 පරිද්දෙන් පැවිදිඋපසම්පදා කරවා——බොහෝසේම අටුවා
සහිත තුන්පිටකයද කියවා ලක්දිව පසුබස්නාවූ බුදුසස්න
බැබලවී.
9 පුලස්තිපුරයතුළ පියසෙහි ඒ ඒ තන්හි අතිශයින් මන
10 හරවූ බොහෝවූ විහාරයන් කරවා තුන්නිකාවැසිවූ සමණන්
එහි වාසය කරවා උදාරවූ සිව්පසයෙන්ද සැතැප්වී——ඉන්ද්‍ර
11 කීලස්තම්භයෙන් මනහරවූ පවුරු අගලින් යුක්තාවූ පස්මහල්
12 මහපහයකින් බබලන්නාවූ හාත්පස යහපත්වූ ආවාසපෙ
ළින් මොනවට බබලන්නාවූ මිනිසුන්ගෙන් ගැවසුනාවූ අව
13 කාස ඇති බබලන බිහිදොර ඇත්තාවූ උතුම් වෙහෙරක්
රතනාත්‍රය පිහිට කොට ඇත්තාවූ ඒ රජතෙම කරවා තුන්
14 නිකාවාසීවූ බික්සගහට දීන. හෙතෙම සඞ්ඝයාට පිසදිය
යුතු දන්වැටුප් පිණිස එහි වාසීවූ ප්‍රධානීන් සමග ඇළිසර
15 නම් රට දී, එහි සමණන් නොයෙක් සියගණන් වස්වා
හෙතෙම සතත යෙන් උදාරවූ සිව්පස පැලැත්වී.

16 හෙතෙම මහාහීවූ මනරම් දළදා මැදුරක් කරවා දළදා
17 වහන්සේට සතතයෙන් මහපුද කරවී. සමූහයාහා එක්
ව පැවැත්මෙන් පහවූ හෙතෙම දිනක් පාසා උදය සොඳු
18 රුවූ දහම් මැදුරෙහි ධම්මසඟණීප්‍රකරණය පරිවර්තනය කෙ
ළේය—නැටුම්ආදියහා සුවඳමල්ආදිවූ නොයෙක්පූජා පව
19 ත්වා ශ්‍රද්ධාසම්බන්ධවූයේ හිසින් බුදුන් වඳී. පරිත්‍යාගයෙහි ශූර
වූ ඒ රජතෙම දඹදිවින් ආවාවූ බොහෝවූ පණ්ඩිතයන් ඒකා
20 කාරයෙන් දියයුතු ධනදානයෙන් සැතැප්වී. සැමකල්හි ද
හම් ගුණෙහි ඇළුනාවූ හෙතෙම සඬ්ම් දෙශකයන්වහන්
සෙලාට නොයෙක් පරිද්දෙන් පුදකොට සදහම් දෙස්වී.

21 හෙතෙම තුන්වරක් බැගෑපතුන්ට තුලාබර දෙවී. පො
හෝදවස්හි අතිශයින් පිරිසිදු කොට පෙහෙවස්ද විසී. රජ
22 තෙමේ අවුරුදුපතා දඹිසසරනම් දානයක් දින. තුන්පිටකය
23 ලියවා බික්සඟහට දින. හෙතෙම මාහැඟි මිණිමුතුආදි
රුවන් යවා දඹදිව මහාබොධිය නොයෙක්වර පිදවී.

24 කණ්ණාටරජහු විසින්ද සොළිරජහු විසින්ද එවනලද්දාවූ
රාජදූතයෝ මහත්වූ පඬුරුගෙණ මෙහි ආවෝ මිහිපල්හු
25 දුටහ. එයින් සතුටුවූ සිත්ඇති හේතෙමේ ඒ දූත දෙපසට
කටයුතු මනාකොට කරවා ඔවුන් අතුරෙන් පළමුකොට ක
26 ණ්ණාට දූතයන් සමග සියදූතයන් සාරපඬුරුදී කන්නඩිරජු
කරා යැවීය.

27 සොළිරජතෙම තමා රටට පැමිනි සිංහලදූතයන් බලාත්
කාරයෙන් කන්නාසාදිය (කපා) ඉතා විරූපාකාරයකට පැ
28 මිනවී. එකල්හි පැමිනි විප්‍රකාර ඇත්තාවූ ඔව්හු මෙහි
අවුත් සොළියාවිසින් තමන්කෙරෙහි කළ සියල්ල රජහට
29 කීහු. උසස්ව දිලිහුනු අබිමන් ඇත්තාවූ හේතෙමේ සියලු
ඇමතියන් මැදට පැමිනියේ දෙමළ දූතයන් කැඳවා සොළි
30 යාට මෙසේ දැන්වී—"එකදිවසිනෙකත් සේනාවනැතිවම
මහමුද මැද අපදෙදෙනාගේ යුඩයෙන් බාහුබල පරීක්‍ෂා
31 ව හෝ වේවා නොහොත් සියලුසේනාව සන්නාඩ කොට තො
පගේ රජයෙහිවත් මාගේරජයෙහිවත් තොප කැමති දේස
32 යෙක්හි ඒ යුඩය කරණු ලැබේවා. මාවිසින් කියනලද ක්‍රම
යෙන්ම තොපගේ ජනාධිපතිතෙමේ කියනුලැබිය යුත්තේ
33 වේ" මෙසේ කියා ගැහැණුඅබරණින් සරසනලද ඒ දූතයන්
වහාම සොළිරජු කරා යවා ඉක්බිත්තෙන් සෙනග ගෙණ
අනුරාධපුරයට ගියේය.

34 සොළීරට ගොසින්ම යුදකරණු පිණිස මැටිවල් තොටටද
35 මහතොටටද සෙනෙවියන් දෙදෙනෙක් යැවී යුදපිණිස සේ
නාව සොළීරට යවන කරුණෙන් සෙනෙවියන් නැව්ද මා
36 ගෝපකරණද සදන කල්හි (රජහට) තිස්වෙනි හවුරුදුවූ
එකල්හි වෙළක්කාර යන නම් ඇත්තාවූ සේනා සමූහයෝ
37 එහි යන්නට නොකැමැතිව විරුඬව මතැතුන් සෙයින්
සේනාපතීන් දෙදෙනා මරා උඩඟුව මුළු පොළොන්නරුව
පැහැර ගත්හ.

38 පුතුන් තුන්දෙනෙක් සහිතවූ රජහු නැගනියන්ද අල්වා
39 ගෙණ බලාත්කාරයෙන් රජපහයද දැවූහ. ඒ රජතෙම වහා
40 නික්ම දකුණු පසට ගොස් වාගිරිනම් පව්වෙහි සරුබඩු ත
බබවා සිහවිකුම්යුත්වූ වීරබා උපරජහු විසින්ද මහබල සමූ
41 හයා විසින්ද හාත්පසින් පිරිවරණ ලද්දේ පොළොන්නරු
වට පැමින දරුණු යුදකරන්නේ ආවාවූ සේනා සමූහයන්
42 ක්‍ෂණයෙන්ම පැලවී. මරණලද සේනාපතීන් ඇටසැකිළි
43 තුබූ සැය පිරිවරා සතුරුවූ සේනාපතියන් කණුවල පිටි
තොල හයා දැඩිබැම්මෙන් බඳවා හාත්පසින් විසිරෙ
44 ණ ගිනිදැලින් දැවී. මිහිපතිතෙමේ එහි මා නීන්ගේ ගම්නස්
45 වා ලක්දිව් පොළොව සර්වප්‍රකාරයෙන් කටුරහිත කෙළේයි.
සොළියා සමග යුදකරණට තමන් විසින් කරණලද අවධි
46 නොවරදවා ඒ රජතෙමේ පන්සාළිස් වන වසෙහි සනාඩ
47 වූ සේනාව ගෙණ සයුරු පටුන් වැද උහුගේ ඉදිරියට ඊම
බලමින් කිසිකලක් වසන්නේ රජතෙමේ සොළියා නොඑ
බැවින් උහු වෙත දූතයන් යවා නැවත අවුත් පොළොන්
නරුවෙහි බොහෝකලක් විසීය.

48 මහාහෙළිය, සරෙහෙරුය මාදැත්තාය යන නම්වූද කටු
49 නනරුය, පඩාවිය, කල්ලගල්ලිකය, යන නම්ඇති වැව්
ද එරඩගලලනම්වූ වැවද, දිගුවත්නම්වැවද, මඩවාටක
50 නම් වැවද, කිතුය අක්බොපව්ය යන නම් ඇති වැව්ද, ව
ලාහසසය, මදුරගලය, කිඹුල්හෙබය යනවැව්ද පත්පහන්
51 වැව, කාණ නම් වැව,යන මෙකී වැව්හා අනිකුදු භිනනම
යකාද ඇති බොහෝවූ වැව් සැමකල්හි දිළිඳු දනා කෙරෙහි
බැඳුනාවූ වැඩකැමති සිත්ඇත්තේ බැඳවී.

52 ඒ මිහිපතිතෙම ඒ ඒ තන්හි කඳුරුගංහෝවල දිය නවත්
53 වා වේළි බඳවා රට සුභික්‍ෂ කරවී. හේතෙමේ බිඳුනාවූ තලව
54 තුනම් මොව්ඇල බඳවා මින්නේරිවැව දිය පිරවී~~විහාර
නිඃසයචාරිත්‍රය බින්දවූ සියමෙහෙසිය පෙරහැර සර්වප්‍ර
55 කාරයෙන් සුත්කොට ගිව්අල්ලවා නුවරින් පිටකරවා මහ

සඟ සමාකරවා තමාගේ සඞ්ඝගෞරවය ලොවට පහළ කරවී.
56 මාගම සොළීන් විසින් නසනලද්දාවූ දාගැප්ද ථූපාරාම දෙ
57 කෙහි[දාගැප්ද] බැඳවී— මැනියන්සොහොන්බිමද එසේ
58 ම පියානන්සොහොන්බිමද මහත්ආවාස පසක් කරවී, බූදල
විට්ටියෙහිද එසේම කරවී. පඬාවියද පාඨීනවෙහෙරද රක්සැ
59 පව්නම් වෙහෙරද එසේම මඬලගිරියද මීගොඩ වෙහෙරද
ඌරුවෙල්නම් වෙහෙරද දෙව්නුවර වෙහෙරද මියුගුණවෙ
60 හෙරද සිඟිල්ගම්ලෙනද දඹකොලවෙහෙරද, එසේම ගිරි
61 කඩවෙහෙරද කුරුන්දිවෙහෙරද, දඹකොලලෙනද, බදුළු
62 වෙහෙරද, එසේම පරගම්වෙහෙරද, කසගල්නම් වෙහෙරද
63 සඳගිරිවෙහෙරද, වෙල්ගැම්වෙහෙරද, මහසෙන්නම්ගම
වෙහෙරද, එසේම අනුරාධපුරයෙහි බෝගෙයද, යනමේආ
දිවූ දිරූ නොයෙක් විහාරයන් ඒ රජතෙම ප්‍රතිසංස්කරණ
කරවී, වෙන්වෙන්වසයෙන් ගම්ද දුන්නේය.

64 "සමන්කුළුපව්වෙහි පිහිටි මුනිරජහුගේ පාසටහන වඳ
65 නා පිණිස දුකසේ යායුතු මගයන්නාවූ මනුෂ්‍යයෝ සියල්
ලෝම නොපෙළෙත්වා" යි දත් වැටුප් පිණිස හැල්කෙත්
66 ආදියෙන් සමෘඬවූ ගිලීමලයනම් ගම දෙවී. කෙසෙල්ගම්
මගද එසේම ඌවරට මගද වෙන්වසයෙන් ගම් දී සාලාද
කරවී.

67 රජතේමේ අනාගතකාලයෙහි රජදරුවෝ ඒ ගම් නොග
68 ණිත්වයිඅකුරුකොටවා ගල්ටැම්ද පිහිටවී. ඒරජතෙමේ ලාභ
සථානවාසිවූ සමණන්ට අතුරුවිට්ටිනම්ගමද එසේම සඟුළුගම
69 ද, සිරිමඬගල් ගමද දුන්නේය— වතින් ජීවත්වන සමණ
න්ට හෙතෙම සිවුපස දින. හේතෙමේ ඒ සමණන්ගෙ නෑ
70 යන්ටද හොග උපදනාගම් දෙවී. ශීතසෘතුවෙහි පොරෝණ
යන්ද ගිනිකබල්ද නානා ඔසුද බොහෝසේම බික්සඟහට
71 දෙවී. නුවනැත්තාවූ හෙතෙම නොයෙක්වර සියලු පිරිකු
රද එසේම අටපිරිකරද සකස්කොට බික්සඟහට දින. ලා
72 භසථානවාසී භික්ෂුසඞ්ඝයාගේ පිසුම් වැටුප් පිණිසද සෑ
ආදිය පූදන පිණිස වතාවත් කරුවන්ටද පෙර රජදරුවන්
73 විසින් දෙනලද යම් ගම් කෙනෙක් රුහුණුවූනම් අඩුනොවූ
ඒ සියල්ලන්ද හෙතෙම පෙරපරිද්දෙන් තැබ්බවී. බලී
74 වූ හෙතෙමේ කුදුන්ට බලවත්වූ ගොනුන් දින. දයාවෙහි
ඇළුනාවූ හේතෙමේ කවුඩු බලු ආදීන්ට බත්ද දින.

75 මහාකවිවූ හේතෙමේ නොයෙක් කව්කරන්නන්ට ද්‍රවෙ
76 ණිගම්හා බොහෝවූ ධනසමූහයක් දින. කවීන්ද්‍රවූ හේතෙ
මේ රජඇමති ආදීන්ගේ පුත්‍රයන් විසින් කරණලද ශ්ලෝ

77 කයන් අසමින් සුදුසු පරිද්දෙන් ඔවුන්ට ධනය දින. අඳ ද නාන්ටද පිළුන්ටද වෙන් වෙන් වසයෙන් ගම්ද දින. නො යෙක් දේවාල යන්ටද පෙරදෙන ලද්ද නොපිරිහෙළී.

78 ඒ රජතෙමේ අනාථවූ වැඳඹු කුලගනන්ට සුදුසු පරිද්දෙ 79 න් ගම් බත් වත් දින. ඵලූකව් කිරීමෙහි මහත් නුවනැත් තාවූ ඒ රජතෙම සිංහල කාව්‍යකාරයන් අතුරෙන් අග්‍රවී. 80 යහපතෙහි බඳ අදර ඇත්තාවූ ඒ උපරජතෙමේ බදගුණ නම් වෙහෙර සොළින්විසින් නසනලද සැය බැඳවී. මසුරු 81 මලහැර දන්දෙන තාකග ඇත්තාවූ හේතෙමේ ඉක්බිති ඒ උ තුම් වෙහෙරට ගම්වර අී සතතයෙන් මනාකොට පූද පැවැ 82 ත්වී. හේතෙමෙම ඒ වෙහෙර උපචාරවනයවෙත තහවු 83 රුවූ මහදියඇති මහවැවක් බැඳවී. රජහු දුවූ යසෝධරා 84 තොමෝ කපූරුමුල්නම් වෙහෙර තහවුරු සිත්කළුවූ මහ පිළිමගෙයක් කරවී—රජහුසිය රූපනා තොමෝ ගලතුරු සුමුවෙහි ප්‍රසාද එලවන්නාවූ උත්තුගවූ මහපහයක් කරවී. 85 එකල ඒ රජහුගේ නොයෙක් ඇමතියෝද අන්තඃපුර ජන යෝද නොයෙක් පරිද්දෙන් නොයෙක් පින්රුස් කළෝ. 86 මෙසේ ලක්දිව් රජහු ලක්දිව අනුශාසනා කරණකල්හි හික් මුනාවූ උපරජතෙමේ දරුණුවූ මරහුවිසින් වසගකරණ ල ද්දේය.

87 උහුට කළමනා සියලු කටයුතු සමාපතකොට භික්‍ෂූන්ගේ 88 කැමැත්තෙන් ජයබාහුකුමරහට යුවරජ තන තුර දුන්නේය. 89 ඉක්බිත්තෙන් ඇපා පදවිය වික්‍රම්බා කුමරහට දී ඉන් පසු ගජබාහයයි ප්‍රසිඩවූ උහුගේ පුතුඋපන්කල මහඇමතියන්හා 90 මන්ත්‍රණය කොට රාජපුත්‍රයාගේ වැඩෙහි කැමැත්තේ මුළු රුහුණ දී එහි විසීමට යැවී—නැවතහෙතෙම එහි ගොස් මහනාහුලනම් පුරය රාජධානිකොට එහි වාසය කෙළේයි.

91 මෙසේ විජයබාහුනම් රජතෙම නොපැකුළුනාවූ අණසක මෙහි පස්පණස් හවුරුද්දක් පවත්වා බුදුසස්නද දෙමළ සේනාව විසින් උපද්‍රව කරණලද ලොකයද වර්‍ධනය කොට සියපිනින් හටගත් ඒ මහත් එලය දක්නටමෙන් දෙව්ලො වට නැංගේයි.

මෙතෙකින් සුදිජනයාප්‍රසාදසංවෙගපිණිස කළ වහවස ලොකසාසන සගහකරණ නම්වූ සැටවෙනි අදියර නිමි.

---

# 61 වෙනි පරිච්ඡෙදය.

---

1 එකල්හි රජහුගේ නෑගනිවූ මිත්‍රාතොමෝද ඒ බිසවුන්ගේ
2 පුතුන් තුන්දෙනාද මහඇමතියෝද එසේම (අෂ්ට) විහාරවා
සීවූ භික්ෂූහුද යන මේ සියල්ලෝ රුහුණුවසන්නාවූ ඇපාන
3 න්ට මිහිපල්හු මළ හස්න නොදන්වා එකතුව මනාත්‍රණය
කොට සම කැමතිබැව් පැමිනියෝ යුවරජහට ලඞ්කාරාජ්‍යා
4 භිෂෙකය දුන්නාහුය. ඒ සියල්ලෝ පූර්වචාරිත්‍රමාගීය ඉක්
මවා මාණාභරණනම් කුමරහු උපරජබැව්හි පිහිටවූහ.
5 ඉක්බිත්තෙන් ඒ සියලු මාණාභරණාදි තුන් සොහොයුරෝ
6 ජයබාහු රජුහා සමගවූවෝ එකල්හිම මුතුමැණික් ආදි
වූ සාරසම්මතවූ රුවන් සියල්ලද ඇත් (අස්) ආදි වාහනද
7 අත්පත්කොට සියලු සේනාවගෙණ ඒ "වික්‍රමබාහු රජහු
වහා අල්වා ගණුම්හ" සි පෙළොන්නරුවෙන් නික්මුනෝය.
8 ඒ වික්‍රමබාහුඇපාතෙමේ මේ සියලුපුවත අසා "පියරජහට
අන්තිම සත්කාරය කරන්ට නොලද්දෙමි අදෝමය දැන්
9 වහා පොළොන්නරුවට ගොස් එහි පියානන් සොහොන්බිම
දැකීමෙන්ම ඒ මම මාගේ සිතට පැමිනි සොකභාරය දුරු
10 කෙරෙමි"සි කරණලද දැඩිවූ ව්‍යවසායඇත්තේ ඒපුරයෙන් නි
11 ක්ම අතිශයින් බලාත්කාරීවූ ඇපාතෙමේ සත්අටසිය ගණ
12 නක්වූ සේනාවවිසින් පිරිවරණලද්දේ අතරමගදීම ගුත්
හලමඩලෙහි කොස්බුක්කනම් ගමෙහිදී යුඩයට සනාහ
13 ඔව ආවාවූ මහසෙනග දැක බිය ඉක්ම ගිය එක වීරවූයේ
යුදකොට ක්ෂණය කින්ම ඔවුන් ඒ ඒ දෙස විසුරුවා
හැරියේය.

14 ඉක්බිති එහි පරජයට පැමිනියාවූ ඒ තුන්බෑ රජදරුවෝ
15 අබිමනින් උඩගුව වහාම සේනාවාහන සනාහකොට ඇ
පා දඩුයසී ප්‍රසිඩවූ පියසෙහිදී යුද කළෝය ; හේතෙමේ
නැවතත් යුදකොට තුන්දෙනම පැරදවී.

16 කටගම තුන්වෙනි වරද සිවුවෙනිව කාලාවැවද පස්වෙනි
17 වර උදුන්දෙරද සවෙනිවර මඩවෙලද ඔවුන්සමග යුද
කොට සැමකල්හි ගත්ජයඇත්තේ ඇමති පිරිවරජනයන්
18 සහිතවූයේ පොළොන්නරුවට ආයේය. හේතෙමේ සිතු නයි
න්ම පියහු සොහොන දැක දුරුකරණලද මහසෝ ඇතිව
19 ලත්අස්වස් ඇත්තේ පුරයෙහි වසන්නේම තමහට දුකෙහි

සහායවූ ඇමතියන්ට සුදුසුසේ තනතුරු හා සියලු භොගයන්
20 දීන. තමාසමග ආවාවූ සියලු භටයන්ටද දුකෙහි සහාය
බැව් සිහිකෙරෙමින් සුදුසුවැටුප් දීන.

21 ඒ මාණාභරණ රජතෙමේද සෙසු සොහොයුරන් සමග [ල
22 ක් දිව] දකුණුපසද රුහුණද තමා අත්පත් කොට ඉක්බිත්
තෙන් කිත්සිරිමේ කුමරහට දොළොස් දහස්රට දී එහිම වස
23 න්ට නියෝග කෙළේය. සොහොයුරානන් විසින් ඇණවන
ලද්දාවූ කිත්සිරිමේනම් ජනේන්ද්‍රතෙමේ එහි ගොස් මානාසු
ලනම් පුරයෙහි විසී,

24 යලිත් සිරිවල්ලභකුමරහටද අටදහස්නම් රට දී එහි වස
25 න්ට නියෝග කෙළේය. ඒ සිරිවල්ලභතෙමේද එසේම ගො
ස් උදුන්දොරනම් ගම රජදහන්කොට වෙසෙමින් ඒ රටඅනු
26 ශාසනා කෙළේයි. තෙමේත් සේනාසහිතව දකුණුපසට
ගොස් වීරබාහුයයි ප්‍රසිඩ්ධවූයේ පිළගම විසී. තුන්බෑරජදරු
27 වන්ගේ මව්තොමෝද ජයබාරජතෙමේද එකල්හි කිත්සිරි
මේරජහු ලගවිසූහ.

28 ඉන්මතු හවුරුද්දක් ඉක්ම ගියකල ඒ මාණාභරණදීහු ඒ
29 වික්‍රම්බා රජහු විසින් තමන්කෙරෙහි කරණලද්දාවූ සියලුම
නැංගනොහැකි මහත්වූ පරාජය නිගාව නැවතනැවත
30 සිහිකරන්නාහු අභිමානයෙන් උදම්වූවෝ "හිස අබිසෙස්
කළ රජුන්ගේ රජරට මේතෙමේ අබිසෙස් නැතිවම කෙ
31 සේනම් අනුභව කරන්නේද" යි මෙසේ ඉෂ්‍යාපරබවටද පැමි
ණියෝ සේවකයන් සඟ්‍රහකොටගෙණ එකතුව නැවතද යුදක
32 රණුපිණිස නික්මුනෝය. ඒ වික්‍රමබාහුරජතෙමේද ඒ අසිය
33 දූතයන්ගෙන් අසා මහසෙනගවිසින් පෙරටුකරණ ලද්දේ
ඔවුන්ගේ රටටම ගියේය—ඒ වික්‍රමබාහු ක්‍ෂත්‍රියතෙමේ
34 දකුණුදෙස බෝසෙන් පව්නම්ගමදී යුදකොට ඒ තුන්දෙන
පැරදවී. එකල්හි " මම මේ සියලුසතුරන් මුල් සුන්කරමැ" යි
35 සිතා පලායන්නාවූ උන් පියවර පසුපස්සෙහි ලුහුබැන්
දේය. ඔව්හුද පස්යොදුන්රට බලකොටුවකට ගියෝය. හේ
තෙමේද ඔවුන් අල්වනු කැමැත්තේ යුහුව කැළණි පුරයට
වන්නේය.

36 එකල්හි ආරියරට උපන්නාවූ පළන්දිපනම් රට අධිපතිවූ වී
ර දේවයයි ප්‍රසිඩවූ අතිශයින් දරුණුවූ වීරයෙක්තෙම ලක්දි
37 ව අත්පත් කරණු හැක්කැයි සිතා ශූරයෝධයන් සමග මහ
38 තොට ගොඩබැස්සේය. එකල ඒ වික්‍රමබාහුනම්වූ රජතෙම
ඒ පවත් අසා යම්තාක් මේ ලක්දිව ලදබැසගැන්ම ඇත්තේ
39 නොවේද ඒ තාක් මුල්සිඳිය යුතුයයි සිතා කැළණියෙන්

40 නික්මුනේ මහතොට මන්නාරම් නම් ගමටගියේය. වික්‍රමබා
හුරජ්ජුහාසමග ඒ වීරදේවතෙමේද යුදකොට සෙන්ඇණි ආ
41 දින්ද දෙබෑ රජකුමරුන්ද කිතුනමින්පසිඳුවූ සේනාපතිහුද
42 වීරසම්මතවූ බොහෝජනයන්ද වහා මරාරක්ඛකනම් සේනා
පතියාද ජීවග්‍රාහයෙන් අල්වාගෙණ සේනාසහිතවූ උහු
43 පරදවා පියවර පසුපස්සේ ලුහුබැන්දේය. බියපත්ව පලාය
න්නාවූ හේතෙමේ සියපුරයට අවුත් හස්තසාරවස්තු
44 ගෙණ වහාම කොටුසරට ගියේය, ඒ වීරදෙවතෙමේ උහු
45 පසුපස්සේ ලුහුබැඳ අවුත් තීපදිනක් පුරයෙහි වාසයකොට
වික්‍රමබාහුරජහු අල්වාගන්නාපිණිස වහා එහිම ගියේය.
46 ඒ වික්‍රමබාහුරජතෙමේද මහත්වූ සියලු සියසේනාව යවා
යුදකරවා අතුරුවිටිනම් ගම මහාකඳමදුතීගයෙහිදී
47 මහාබලඇතියේ වීරදේවයා මරවා අධිපතිවූයේ අබිසෙස්
නැත්තේම පොළොන්නරුවෙහි වෙසෙමින් රජරට අනුසා
සනා කෙළේය.

48 ඉන්පසු තුන්බෑරජහුද යුඩයෙහි ආසාව දුරුකොට සියසිය
49 රට ගොස් පෙරසේම විසූහ. මේරජ්ජුන් සතරදෙනම උත්සාහ
කරමින් මේ ලක්දිව එකසත් කරන්ට සර්වප්‍රකාරයෙන්ම
50 නොහැකිවූහ. අපරීක්ෂාකාරීබැවින් උසස්කුලවතුන් පිරිහෙ
51 ලූහ, හීනවූ ස්වාභිමතජනයන් මහත්තන්හි තැබූහ. යහ
පත්නුවනනැත්තෝ විජයබාරජහුවිසින් නොයෙක් පරිද්දෙ
52 න් වඩනලද්දාවූ බුදුසස්නහා ලොවද පිරිහෙලූහ· උතුම්
කුලවත් මිනිසුන්ගේ එබඳු දෙසක් නැතිකල්හිද ඔවුන් අ
53 යත්වූ ධනය බලාත්කාරයෙන් ගත්හ. ධන උපයන්නෝ
නොපිරුණුතොස්ඇතිව වැඩියක් අයගණිමින් සියලු ලක්
දිව උක්යතකින් උක්දණ්ඩක්සේ මිරිකාලූහ.

54 ඒ වික්‍රමබාහුරජතෙමේ බුඩාදීන් සන්තක හොගගම් උදුරා
55 සේවකයන්ට දින. හේතෙමේම පොළොන්නරුවෙහි ධාතු
යෙන් අලඞ්කෘතවූ නොයෙක් විහාරයන් පරදෙසිකවූ යෝ
56 ධයන්ට වසන පිණිස දින. සෑදැහැත්තන්විසින් පාත්‍රධාතු
57 වටද උතුම් දළදාවටද පුදනපිණිස දෙනලද මිණිමුතු ආදී
යද සඳුන් අගිල් කපුරුද රන්ආදියෙන් නිමවනලද්දාවූ පිළි
58 මයන්ද පැහරගෙණ කැමතිසේ විනාසයට පත් කෙළේය.
සස්නටද ලොවටද කරණු ලබන්නාවූ උවදුරු බොහොසේ
59 බලමින් එකල්හි උහු කෙරෙහි කලකිරුණු සිත් ඇත්තාවූ
60 අෂ්ටමූලවිහාරයන්හි ගරුවසයෙන් සම්මතවූ භික්ෂූහුද දෙ
කොටසට ඇතුළත්වූ පාංශුකූලික භික්ෂූහුද "මෙසේ තීක්ෂ
61 කයන්සමවූ සස්නට බොහෝ උවදුරු කරන්නවුන් හමු

වෙන් බැහැර යාම උතුමැ" යි සිතා උතුම් දළදාවහා පාදාව ගෙණ රුහුණට ගොස් පාසුවූ ඒ ඒ තන්හි වාසය කළෝය.

62 එසේම ඒ ඒ පාසුතන්හි විසිරගියාවූ ඒ කුලවත් දනෝද 63 සැඟවී වාසය කළෝය. උභයපක්‍ෂගත රජුන්විසින් ගත යුතුව සීමාවල පිහිටවනලද්දාවූ සාමනතයෝ ඔවුනොවුන් 64 සමග බොහෝසේ යුදකරමින් අතිශයින් සමෘඬවූ නොයෙක් ගම් නියම්ගම්හි ගිනි ලමින් දියපිරුණු වැව්ද සිඳිමින් සියලු 65 දියඇල අමුණුද හැමලෙසින්ම නසමින් නෙරළු ආදී තම න්ට උපකාරවූ රුක්ද සිඳිමින් යම්සේ පුරාණගම් පිහිටිතැ 66 නෙකැයි නොහැඟේද එසේ ඔවුනොවුන්ට විරුඬවූවෝ රට 67 වැනසූහ. ඒ මිහිපතියෝද චරයන්ලවා ගම් පැහැරීමද මංපැහැරීමද කරවන්නෝ ලොකොපද්‍රව කළෝය. කුල 68 වත් මිනිසුන්ගේ දස්කම්කරුවෝද සියහිමියන් ඉක්ම පවත් 69 නෝ නිසැකව බියරහිතවූවෝ එකල්හි රජුන් අබතුර පවත් නාහු අවිදරව ලත්තනතුරු ඇත්තෝ අතිශයින් බල 70 වත්වූහ, සමන්තකූටපර්වතස්ථානාදිවූ නොයෙක් දුර්ගස්ථාන වාසිවූ ජනයෝ මිහිපලුන්ට පෙර නියමකරණලද අය නො 71 දෙන්නෝ රජඅණ නොගන්නාහු තුමූ රජ සතුරුබවට පැ මින උඩඟුව සිය සිය දෙසම විසූහ. එකල ලක්දිව්තලය 72 "අවැඩෙහි ඇළුනෝනම් හැමසෙයින්ම පෙරලෙත්" යයි කියයුතු බවටම ගියේය,

73 මෙසේ සිරිත්මගින් බැහැරවූ ඒ සියලු මිහිපල්හු ගම්මූදළි යන්මෙන් සැමකල්හි වැඩියක් නොදනැත්තාහු අතිශයින් වැසනයෙන් ඇළුනුසිත්ඇත්තාහු උපුටනලද රජ අබිමන් ඇතිව සතතයෙන් අත්වැඩපරවැඩ සිදු කිරීමෙහි බහානැබූ ධූරයෙහි යෙදුනෝ වෙසෙසින් හීනසිත් ඇතිව විසූහ.

මෙතෙකින් හුදිජනයා ප්‍රසාදසංවෙගපිණ්ස කළ මහවස චතුරාජචරියනිද්දෙසනම්වූ එක් සැටවෙනි අදියරනිමි.

---

# 62 වෙනි පරිච්ඡෙදය.

---

1 ඒ ජයබානම් මිහිපතිතෙමේද මිත්තානම් (නැගනි) රාජනි 2 යද රුහුණම වැස එකල්හි කලුරිය කළෝය. යලිත් සිරිවල් ලහ රජහුගේ බිරිඳුවූ සුගලානම් බිසෝතොමෝ මාණාභ 3 රණනම් පුතුයාද ලීලාවතීනම් දුවද යන දෙදෙන ඉපදවී.

මාණාභරණරජහුගේ බිසෝවූ රතනාවලීහොමෝත් මිත්‍රා
4 නම්වූද ප්‍රභාවතීනම්වූද දූත් දෙදෙනෙක් ලැබී. ඒ දූත් දෙ
දෙන දක්නාවූ වීරබාහුනම් මහඇපානන්ට එකල්හි මෙ
සේ විතර්කයක් වී.

5 ලෝකයා විසින් මනාකොට සම්මතකරණලද්දාවූ සියළු
රජකුලයන්ගේ මුදුනෙහිවූ පිරිසිදුවූ චන්ද්‍රවංශයෙහි උපන්
6 නාවූ අපිවනාහි අතිශයින් ඉච්ඡාකටයුතු ආකාර ඇත්තාවූ
සියලු ශක්තියෙන් උසස්වූ නානාවිධ ශාස්ත්‍රයන්හි දක්‍ෂවූ
ඇත් අස් ආදී ශිල්පයන්හි පොහොසත්වූවෝ (වමහ)
7 එතකුදු වූවත් මේ අපි තුන්දෙනාම උදකලා වික්‍රමබාහු ඇ
8 පානන්විසින් යුදෙහි පැරදී නින්‍දවට පත්කරණලද්දෙ (ව
මහ.)මේකිලුට සුඩකරන්ට වෙසෙසින් පොහොසත්වූ පුතෙකු
ගේ පහලවීමක් නොපෙණේ අපගේ මඳ පිනැතිබව අදෝම
9 ය. ජනවාදයෙන් කිලුටුවූ රජබවෙන් මට කම් තිම දැන් කා
10 ම සැපයෙහි ඇල්ම හැර මනා කම්හි සතතයෙන් නොප
මාවූවහුවිසින් දවස් යැවිය යුතුය ” යි (සිතා) සියලු රාජ්‍යවිචා
11 රණය ඇමතියන්ට පාවා දී එහි සත්අටමාසයක් වෙසෙමින්
එක් දිනක් රෑ ශීලසංයමඇතිව දෙව්රජගෙයි ශයනය
කෙළේයි.

12 ඉක්බිති අළුයම් කාලයෙහි විසිතුරුවූ වස්ත්‍රාභරණ ඇත්
තාවූ සුවඳමලින් සැරසුනාවූ වෙසෙසින් උදාරවූ රූ ඇති
13 සියසිරුරූ බැබලුමෙන් අහස්කුසට නැගී හිරුසෙයින් සියලු
දිගුන් හෙලිකරන්නාවූ මෙසේ කියන්නාවූ මහත් සෘඩිමත්
14 දෙවපුත්‍රයා මිහිපල්තෙම සිහිනෙන් දිටී. “ මහපිනැත්ත
15 පහදුව මිහිපතිය ප්‍රීතියුක්තවෙව පිනැතිලකුණෙන් සමෘඩවූ
16 ඊප්සිතාර්ථය සිඩකරන්නාවූ හික්මුනාවූ ලොවතුළ පතළ
තෙද පැරකුම් ඇත්තාවූ ආයු බල යසස් කීර්තීන් බබලන්
17 නාවූ යහපත් ගුණයන්ට ආකරවූ ලෝකශාසනාභිවෘඩිකා
රීවූ උතුම් පුත්‍රයෙක්තෙම මහරජ දැන්තොපට නොබෝක
ල කින්ම ලැබෙන්නේය. පුත්‍රදාරාදීන් විසින් වාසයකරණ
ලද්දාවූ පුරයට වහා යව ” යි (මෙසේ කියන දෙවපුත්‍රයා
දැක්කේයි)

18 පිබිද හටගත් ප්‍රීතිවෙගඇත්තේ ඉක්බිත්තෙන් රෑය පහ
19 න්වූ කල්හි රජතෙමේ එයින්(නික්ම)පිලගමට ගියේය. ඒ මි
හිපල්තෙමේ දුටුපරිද්දෙන් ඒශුභස්වප්නය මෙහෙසියප්‍රමුඛ
20 කොටඇත්තාවූ ඇමතියන්ට කියේය. එහි මෙහෙසියහා සම
ග උතුම් පුතෙකු පතමින් දානශීලාදී නානාප්‍රකාර කුශල
21 ධර්මයන් පුරන්නේ යලිත් එක්දිනක් අළුයම්කල්හි සිහිනෙන්

වනාහි සියලු ලකුණෙන් සමෘඩවූ සර්වාංගධවලවූ මනහර
22 වූ දම්තවූ උතුම් ඇත්පොව්වෙක් ප්‍රෙමයෙන් කණ අල්ලා
23 හැරගෙණ මෙහෙසිය යහන් ගබඩාවට ඇතුල්වෙන්නාසේ
දැක පිබිද උතුම්වූ සයනයෙන් නැගිට හටගත් ප්‍රීතිප්‍රමෝදෘ
24 වෙගයෙන් පිණගියසිතැත්තේ එමවේලෙහි මෙහෙසියගේ
(ශ්‍රී)යහන්ගබඩාවට වහා ඇතුල්ව දුටුපරිද්දෙන් සිහිනය ඇ
25 යට පැවසී. "මමද මාගේ යහන පැදකුණුකොට සිටියාවූ එ
26 බදු ඇත්පොව්වෙක් සොඬඅල්වාගෙණ යහනට ඇදනගා
ප්‍රෙමයෙන් සිහිනෙන් වැලඳගතිම්" යි දේවීතොමෝද උහුට
27 තීය. ඒ දෙදෙන දුටුදෙය ඔවුනොවුන්ට මෙසේ ප්‍රකාශ
කොට සන්තුෂ්ටවූවෝම එකල නිදීනැතිව අරුණ නැගුහ.
28 ඉක්බිත්තෙන් උදය උපස්ථාන කරණපිණිස ආවාවූ පෙර
වි බමුණුද නිමිත්තපාඨකයන්ද පිළිවිසියෝය. (ඒ) අසා සතු
29 ටුවූ ඔව්හූද නොබෝකලකින් පින්ලකුණු ප්‍රකාශකරන්නාවූ
පුතෙකුගේ උත්පත්තිය අවශ්‍යයෙන්ම වියසුතුයයි ප්‍රකාශ
කළෝ.
30 ඒ අසා ඇමතියෝද එසේම නුවර වැසියෝද රජතෙමේද
31 යන සියල්ලෝම සතුටු මහ සැණකෙළියක් වින්දෝය. එතැ
න් පටන් අතිශයින් සැපයක් සොයන්නාවූ මිහිපතිතෙමේ
32 භික්ෂුසඞ්ඝයා ලවා බොහෝසේ පිරිත් බැණවී. මාහැඟිමිණිමු
තු ආදිවූ ධනය නොයෙක් පරිද්දෙන් යදියන්ට දනමුඛ
33 යෙහි දවසක්පාසා පරිත්‍යාග කෙළේය, වෙද වෙදඟ දත්
34 නාවූ බමුණන්ලවා ශුභයයි සම්මතවූ යාගාදී විදහන්ද
පැවත්වී. බෙහෙවින් නටුවාවූ විහාරද දුගැබ්ද ජීර්ණවූ
වැව්ද ප්‍රතිසංස්කරණය කරන්ට රජකම්කරුවන් යෙදවී.
35 මෙසේ නරනිඳුහූ මනාකමින් දවස් යවනකල්හි නොබෝ
කලකින් දේවියගේ කුසෙහි උතුම් ගැබක් පිහිටියේය. ඉක්
36 බිත්තෙන් ඒ දැන තුටුපහටුවූ ඒ නරනිඳුතෙමේ දේවියට ම
37 හත්වූ ගැබපෙරහරක් දෙවී. කෙමෙන් මුහුකළ ගැබඇත්
තාවූ දෙවීතොමෝ යහපත් නකත් මොහොතින් අභිලක්ෂි
38 තවූ සමයෙහි පුත්‍රයෙක් ප්‍රසූතකළාය. එකෙණෙහි
39 සියල්දිගුහු අතිශයින් පහන්වූහ. සුවඳ මුදු පවන්ද හැමූහ.
ඇතුන්ගේ කුංචනාදයෙන්ද අසුන්ගේ හේසා රවයෙන්ද
40 රජමළුව එකල මහකොලහලින් අවුල්වී. මෙසේ ආශ්චර්‍ය්‍ය
විශෙෂය නොයෙක්පරිද්දෙන් පහලවූ කල්හි ඒ දැක විස්ම
41 යට පත්වූ මාණාභරණරජතෙමේ එකල්හි සියපුතු උපන් අ
ස්න අසා අමාවෙන් අබිසෙස් ලද්දෙක්සේ ප්‍රීතියෙන් පිරු
ණවූ මනොරථය ඇතොත්, එකල සිරගෙහි බඳ බොහෝ

42 ජනයන් මුදවා මහණ බමුණන්ට උදුරවූ දන්දෙව්. නුවර
43 වැසිවූ ඇමතිආදී ජනයෝද රාජධානිය කෙහෙල්තොරන්
ආදියෙන් නොයෙක් පරිද්දෙන් නිරවශෙෂකොට සරසා
44 මොනවට හැඳ පැලඳ ගත්තාහු කීපදිනක් මහත්වූ මනහර
සැණකෙළි පැවැත්වූහ.

45 වෙදයෙහි කියනලද විධියෙන් මිහිපතිතෙමේ කුමරහු
46 ජාතකර්මාදී සියලු විධි සමාපතකොට පෙරව්ආදී බමුණ
න්ද යලිත් ලක්‍ෂණපාඨකයන්ද ගෙන්වා සත්කාර සම්මාන
47 විධිය පූර්වකොට කුමරහුගේ ලකුණු පිළිගැන්මෙහි නියෝග
කෙළේය. මනාකොට උහුගේ අතුල්පතුල්ආදී සියලු ලකුණු
48 කල්පනාකොට සතුටුවූ ඔව්හු ඇමතියන් සහිත ජනසමූ
හය මැදපැමිනි රජහටද දේවියටද (කියන්නාහු) "ලක්
49 දිවතබා දඹදිව්තලයද එකසේසතින් සලකුණුකොට අනු
භවකරන්ට දක්‍ෂය" යි පැවසූහ.

50 භොගදිමෙන් ඔවුන් සන්තර්පණයකොට "පෙණෙන්නාවූ
යම්කිසි අරිටු ලකුණෙක් ඇතහෝ නැතහෝ" යි නැවතත්
51 පිළිවිසියෝය. "මේ කුමාරතෙමේ දීර්ඝායුෂ්කය වැලි එකෙක්
ඇත ඒකාන්තයෙන්ම ජනකාරිෂ්ටයොගයක් පෙණේ" යි ඔව්
52 හූ රජහට කීහ. ඒ රජතෙමේ ඒ කුමරහට "සතුරුජනයන්
මඩනාවූ තෙදැතිබාහූ යොගයෙන් පරාක්‍රමබාහුය" යි අ
53 නවර්ථනාමයක් ගත්තේය. විදහත් දන්නාවූ රජතෙම
කන්විදිනා මගුලද බත්කවන මගුලද විධිවූ පරිද්දෙන් අඩු
54 නොකොට කරවී. එකල්හි ඒ රජතෙම සියපුතු උපන් හ
ස්න විකුම්බා රජහට කියනපිණිස පොළොන්නරුවට දූත
55 යන් එව්. ඒ වික්‍රමබාහුරජතෙම ඔවුන් අතින් යහපත්මහිම
56 ඇත්තියපුතුගේ මහපිනැතිබවද ජනකාරිෂ්ටයොගයද අසා
"පිනැත්තාවූ විජයරාජාදී රාජමාලාවට නායකව බබලන මැ
ණිකක්වැනිවූ මාගේ බෑනනුවන් ඉපදවිය" උහුට යම්සේ
57 සතතයෙන් කිසිහානියක් නොවන්නේද එසේ මෙහි මා
වෙතම කුමාරතෙමේ වැඩේවා.

58 මේ මාගේ ගජබාහුනම් පුත්තෙම නොලත් ලාභයක් ල
බන්ටහෝ ලත් ලාභයක් රක්නටහෝ හැමපියොවින් අපො
59 හොසති. මිහිඳුනම්වූ අන්‍ය පුත්‍රතෙමේ සූරබැව්ආදියෙන් යුත්
නමුදු මව්ගොතින් හීන හෙයින් මාගේ රජයට නුසුදුස්සේය.
60 මාවිසින් නොයෙක් සෙයින් රැස්කළ සමෘඩවූ වස්තුරාශීන්
යුක්තවූ රජයට බෑනතෙමේම ඒකාන්තස්වාමී වන්නේවේ
61 වා" හෙතෙම මෙසේ සිතා ඒකුමරහු ගෙණ එනුපිණිස කුමාර

පලදනාද සෙසුසාරපඬුරුද දී දූතයන් යැවූයේය. වීරබා
62 රජතෙමේ ඒසියල්ල දූතයන් මුඛයෙන් අසා " උහුව්සින් මෙ
බස මට හිතවූ නුවනින් කියනලද්දේ යුත්තේය. එතකුදු උ
63 වත් තමන්ගේ අරිටුදෙසට පිළියම් පිණිස මෙබඳුවූ උරඳ
64 පුත්රුවනක් යවන්නට සුදුසු නොවෙයි. වැලි එකෙක් ඇති
කුමරහු එහි ගෙණ ගියකල විකුම්බාරජහුගේ පක්ෂය ලැබූ
65 මහපවන්වෙග ඇති ගිනිසේ අතිසයින් උසස්වූ මහත් තෙ
ජින් බබලන්නේය වෙසෙසින් අපට මහත්වූ කෙවලවූ හානි
66 යක්ම වන්නේය" හෙතෙමේ මෙසේ සිතා එහි පැමිණි දූත
යන්අත සියපිත්හු නොඑවාම ඔවුන් දනයෙන් සතුටුකොට
එවූයේය.

67 ඒ නරනිඳුතෙමේ සියපිත් බිරිඳුන්හා සමග වාසය කරන්
නේ තියුණුවූ මහත් ව්‍යාධියෙකින් වලදනාලද්දේ රජය
සමග සිරුර හළේසි.

මෙතෙකින් හූදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
කුමාරොදය නම්වූ දෙසැටවෙනි අදියර නිමි.

---

# 63 වෙනි පරිච්ඡෙදය.

---

1 එකල ඉතිරි දෙබෑයෝ දෙටුබෑ මාණාභරණ (යුවරජු) ම
ළ පවත් අසා සිය සිය රටින් වහාඅවුත් අන්තිම විධිය කර
2 වූය. ඉක්බිති කිත්සිරිමේ කුමරතෙමේ දෙටුබෑයා රට තමා
අයත් කොටගෙණ මල්හු කැඳවා අනික් දෙරට දී එහිම ව
3 සන්ට අණ කෙළේය. හේතෙමේද දෙටුබෑයා වදන්පිළිගෙ
4 ණ රතනාවලීබිසවද කුමරුද දූන් දෙදෙනාද එක්කොට
5 (කැඳවා)ගෙණ මානාකුල නුවරටගොස් එහි සමඟිව වෙසෙ
මින්කුමරහු සිළුමගුල් කරවා මහපෙරහරින් සැමදූ වැඩීය.
6 ඉක්බිති ඒ සිරිවලලභ ඇපානෝ(රතනාවලී) බිසවුන් දෙටු
දූවූ මිත්‍රානම් කුමරිය සියපුතුට දෙනු කැමැත්තේ ඇමතිය
7 න් සමග "වැඩියේම කලිඟුකුලයෙහි උපන්නාවූ රජදරුවෝ
වූකලී මේ ලක්දිව්හි නැවත නැවත හිම්බවට පැමිනියහ.
8 ඉදින් කලිඟුකුල උපන් ගජබාකුමරුට දෙනුපිණිස මේ
රතනාවලිදේවිතොමෝ රහසිගතව දුව යැවිනම් විවාහයෙන්

බඳනාලද ඒ ගජබාහුකුමරතෙමේ වැඩියක් බලවත්වන්
9 නේය මාගේ මේ පුත්‍රතෙමේ සර්වප්‍රකාරයෙන් නිරලඹ වන්
නේහෝ පිටිවහල් නොලබන්නේය. එහෙයින් මේ කුමරී
10 තොමෝ මඳුතුව දිය යුත්තිය එසේකල ඒකාන්තයෙන්
අපගේ දියුණක්ම වන්නේය" යි මන්ත්‍රණය කෙළේය.
11 සූර්ය්‍යවංශයට ආභරණයක් බඳුවූ දේවීතොමෝත් ඒ සියල්
12 ල අසා සර්වප්‍රකාරයෙන් ඒ නුරුස්නි රජහට මෙපවත් කීවාය,
"විජයකුමාරතෙමේ සියලු යකුන්මරා මේලක්දිව යම්කලෙ
13 ක මනුෂ්‍යවාස කෙළේනම් එතැන්පටන් අපහා විජය රජකු
ලය ගැළපුහ. කලිඟුවස උපනුන් සමගම (ආවාහ විවාහ)
සම්බන්ධය කළපුරුදු ඇත්තේය. අන් රජුන්හා අපගේ ස
14 ම්බන්ධයක් ඇසූවිරූදූත් නැත. සොමවංශයෙහි උපන් ර
ජුන් සිටියදී තොපගෙන් ජාතයයි අපහා ඒ සම්බන්ධය තෙ
15 මේ ආයර්ෂ්‍යනාවයෙහි උපන් මේ කුමරුහා කෙසේ වන්නේ
දැ" යි (කීවාය)—මෙසේ ඒ දෙවියවිසින් නොයෙක් ආ
16 කාරයෙන් වලකද්දීත් (සිරිවලලහරජ) ඒ කුමරිය උදුරා සිය
17 පුතුටදීන—ඉන්පසු ඒ මාණාභරණකුමාරතෙමේ අනෙ
ක ගුණයෙන් උදාරවූ බිරිඳුවිසින් අනුගතවූයේ සියලු ජන
යන් සතුටුකෙරෙමින් පියහුවෙත විසීය.
18 ඒ වික්‍රමබාහු රජතෙමේ එක්විසි අවුරුද්දක් රජය වලඳ
ශරීරභෙදයෙන් කම්වූ පරිද්දෙන් පරලොව ගියේය—
19 ඉක්බිති ගජබාහුකුමර සමෘද්ධනබලවාහන ඇති සාරවූ රජය
අත්කොටගෙණ පොළොන්නරු නුවර විසීය—ඉක්බිති
20 කිත්සිරිමේ සිරිවලලහරජදරුවෝ මෙපවත් අසා මෙසේ සි
තූය. "ඒ වික්‍රම්බාහුකුමරු තමා මාළුබැවින් මූලරාජාධිපති
21 බව නොයෙක් පරිද්දෙන් අපට නින්දාකර නොවෙයි; උහු
පිත් බාලකුමරු මුල්රජය අනුශාසනාකරද්දී උපෙක්ෂාවීම
22 ඒකාන්තයෙන් අපට නුසුදුසුය. මේ තෙමේ යම්තාක් සිය
23 රටෙහි බඳමුල්ඇති නොවන්නේ වීනම් ඒ තාක් ඒරජය උ
24 දුරා ගන්ට වටනේය" යි (සිතා) සියලු වේළක්කාරබලය වසතු
25 දිමෙන් බිඳවූහ. එකල ඒ රජහු වලලහවූ සේවකයන් කීප
දෙනෙක් හැර රට වැස්සෝ ගජබාරජුකෙරෙහි විරතවූවෝ
26 දෙරජුන්කරා ඒ රටින් නොයෙක් පරිද්දෙන් "එක්වූ අපිව
නාහි රාජ්‍යය සාදා දෙම්හ; ඝූදක් උපසනම්භකභාවයම
(ඔබදෙදෙනාවිසින්) කටයුත්තේය" යි දූතයන් යැවූහ.
27 ඉක්බිති දෙබෑයෝ යුහුව සියසෙන් සරසාගෙණදෙයතින්
ඒ රජ කුමරහු රටමැදට පැමිනියහ; එසේම ඔව්හු දූතයන්ද
28 යැවූහ—ඉක්බිති ගජබා මිහිපල්තෙමේ සියඇමතියන්

රැස්කරවා " සියලු වෙළක්කාර බලය ඉඳුරම සතුරුවිය. ර
29 ජුන් දෙදෙනෙකුදු යුදපිණිස අපගේරටට පැමිනියහ. පළමු
30 කොට ඔවුන්අතුරෙන් වැඩිබලපක්‍ෂයක්හුගේ මුව බුන්කල
ඉන් අන්‍යයෝ වහා සුවසේ සිඩකට හැක්කාය " යි මන්ත්‍ර
31 ණය කෙළේය. මෙසේ නිශ්චයකොට තමා සියලු සෙනග
ගෙණ සිරිවල්ලභරජහු අභිමුඛයට යුදපිණිස පැමිනියේය.
32 සිරිවල්ලභරජතෙමේද උදෑසන පටන් සවස් වනතෙක් ඉතා
බිහිසුනු යුද කෙරෙමින් උහුට කිසි අභිභවයක් කටනොහැ
33 කිව එතනින්ම නැවත සියරටට වහා ආයේය.
34 ගජබාරජු ගොකන්ඇමතිහු විසින් පරදවනලද කිත්සිරි
මේ රජතෙමේත් සියරටට ආයේය—ගජබාරජතෙමේද
35 ඒ යුදෙහිදි කිසි පරිහාණියකට නොපැමිනියේ පෙරලා නු
වරවෙත අවුත් අපරාධසහිත බලවත්වූ බොහෝ බලනායක
36 යන්ට නිග්‍රහ කොට රටත් ව්‍යපසමනය කොටලා සියනුව
රට වන. එතැන්පටන් ඒ රජදරුවෝ සියසියරට උනුන්
37 හා මිත්‍රසම්බන්ධය කොටගෙණ වාසය කළහ.
38 ඉක්බිති මිහිපල් නෑනපැරකුම්බාකුමර ධාරණශක්ති ඇ
ත්තේ නොයෙක් ශිල්පයෙහි ඉතා මනාව හික්මෙන්නේ
39 කතිවකතිව්‍යයෙහි නොයෙක් පරිද්දෙන් විචාරක්‍ෂම බුඩි
ඇති බැවින්ද ඉතා උසස් අදහස් ඇතිබැවින්ද මහපිනැති
40 බැවින්ද සියමව් බුහුනන්හා සමගවාසසැපයෙහිත් බාල
41 ක්‍රිඩාරසයෙහිත් නොලැගුනු සිත්ඇත්තේ " ශූරභාවාදින්
යුක්තවූ මාවැනි රජකුමරුවෝ මෙබඳු පිටිසර රට කෙසේ
42 නම් වෙසෙද්ද ? යුවරජහු විසින් උපභොග කටයුතු මා උප
න් පෙදෙසටම දැන් යන්නෙමු " යි පිරිවරජනයාහා ඒ නුව
රින් නික්මින.
43 ක්‍රමයෙන් (එමින්) සඞ්ඛනායකත්‍ථලිනම්වූ ගමවෙතට ආ
යේය. එහි කිත්සිරිමේ රජතෙමේ එපවත් අසා " රාජ්‍යයට
44 හිමි මාගේ සමාන දරුකෙනෙක් නැතිබැවින් මම හුදකලා
යෙමි. යන යම් චිත්තසන්තාපයෙක් වීනම් ඒ සන්හුන් බ
45 වට ගියේය මාගේ දෙටුබෑයා බඳුවූ උහුගේ සිරුරු පිළිරුව
46 සතනයෙන් දක්නට මාගේ මහත් පිනක් පහලවිය " සිද
ප්‍රමොද්‍යවෙගවසගවූයේ ඒ නුවර තොරන් ආදින් මනෝ
47 හරකොට නොයෙක් පරිද්දෙන් අලඞ්කාර කරවා බලසෙ
නගින් පිරිවරණලද නරෙන්ද්‍රතෙමේ මඞ්ගලසම්මත යහ
48 පත් වක් නැකැත්වෙසෙසෙක පෙරමගට ගොස් අනුන්හා
අසාධාරණ බවට සම්ප්‍රාප්තගුණයෙන්හා සකල මඞ්ගල ල
49 ක්‍ෂණයෙන්ද සමන්විතවූ කුමරහු දැක සතුටුව ප්‍රෙමයෙන්

වැලඳගෙණ ලැම්ඩියෙහි හොවා නැවත නැවත හිස සිඹ
50 ඒ මහජනයා බලාහින්දදී ඒ රජතෙමේ ඇසින් සතුටුකඳුලු
51 ධාරා නිතොරවස්වමින් පුතුහා මනොහර එක් යානාවකට
නැගී බෙරහඬින් හාත්පස දසදිගුත් පූරමින් එනුවරට වැ
52 ද මනොහර අලඞ්කාරයන් සියපුතුට දක්වමින් රජවිමන්
වන.

53 ඉක්බිති ඒ තෙමේ සැට්ටලන ඇමතියන් අරක්කැමියන්
ආදී නොයෙක් පිරිවර ලැබ නානාගුණයෙන් සතුටුකරණ
ලද පියහු වෙත සැපසේ විසීය.

මෙතෙකින් හුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
සඞ්ඛත්ථලිපුරාභිගමනනම්වූ තෙසැටවන අදියර නිමි.

---

# 64 වෙනි පරිච්ඡේදය.

---

1 තමාවිසින් අභිමතවූ ජනදෙශයට පැමිනීමෙන් සම්පූණී
මනසඞ්කල්පඇති දුසඞ්කල්පයෙන් වර්ජිතවූ (කුමාරතෙ
2 මේ) විදුරැබඳු මහත් ප්‍රඥබලයෙන් ගුරුන්වෙත නොයෙක්
3 ශිල්පජාතය වහා බොහෝකොට උගන්මින් බුඩාගමයෙහිද
කොචලලාදී නොයෙක් නීතියෙහිද ශබ්දශාස්ත්‍රයෙහිද නී
4 ඝණ්ටුකෙටුභසහිතවූ කාව්‍යශාස්ත්‍රයෙහිද නැටුම්ගීයෙහිද
හස්තිශිල්පාදීශාස්ත්‍රයෙහිද දුනුකඩුආදී නොයෙක් ශාස්ත්‍ර
5 යෙහිද වෙසෙසින් පරතෙර පැමිනියේ හික්මුනු සිත් හෝ
ගාත්‍ර ඇත්තේ ඇඳහිලි පෙරටු කොට පියරජහුගේ අභිප්‍රා
යානුකූලව හැමකල්හිම හැසුරුණේසි.
6 එකල යහපත් ආදර ආචාර ගුණයෙන් සිත් පිනවනලද
පියරජතෙමේ උහුහා ප්‍රියමිත්‍රයෙකු සමග සෙයින් උයන්
7 කෙළි දියකෙළි ආදී නානාප්‍රකාර සුව අනුභවකෙරෙමින් සි
ය රට ඒ ඒ තැන හැසිරෙමින් එක්කලෙක රට සීමා ආරක්ෂා
8 යෙහි යොදනලද ඉතා බලඇති දැඩිභක්තිඇත්තාවූ සඞ්ඛ
9 සෙනාධිපතිහු වසන බදලත්ථලිනම් ග්‍රාමයාගේ සමීප
10 යට ආයේය—සේනාපතිතෙමේ ඒ බව අසා එකෙණෙහි
ඒ ගම මොනවට සරසවා පෙරගමන් කොට පුතුසහිත මිහි
11 පල්හු වැඳ සිටියේය. එකල පියපුත් දෙනනා උහුට ප්‍රිය
තෙපුල් ක්‍රියා උහුවිසින් නොයෙක් පරිද්දෙන් ආරාධනා කා

12 රණ ලද්දේ ඒ ගමට එළඹියෝය......රජතෙමේ එහි දවස්
කීපයක් ගෙවා සෙනෙවියා කැඳවා මේ වදන් කීයේය. “දැන්
13 මා පිත්තෙමේ යොවුන්වයසෙහි සිටියේ උපනයනාභීය උඹු
ට උපනයනය කරන්ට මහොපකරණය වහා සැරසිය යුතු
14 ය ” යි(කීයේය.) ඒ අසා සේනාධිනායකතෙමේ මගුල්පිණිස
සියලු උපකරණය වහා සජ්ජිත කෙළේය. සුවඳ පහන් මල්ආ
15 දිවස්තුවෙන් තුනුරුවන්හි තුන්දිනක් මහත් සත්කාරකොට
පෘථිවිපතිතෙමේ වෙදකෘත්‍යයෙහි දක්‍ෂවූ බමුණන්ලවා ස්ව
16 කීය තෙජසට අනුරූපවූ ඒ මගල්‍යය නිමවා ඇමතියන් සහි
17 තවූයේ පැරකුම් කුමරුහා මහත් වසන්තක්‍රීඩාව කෙළනට
18 පටන්ගත. එකල කීර්ත්තිශ්‍රීමේඝරජතෙමේ රුහුණ වසන සිය
මල් සිරිවල්ලභනම් රජහුගේ මරණයත් (උහුපිත්) මාණා
19 භරණනම් කුමරහු රාජ්‍යලාභයහා මිත්‍රාදේවියගේ සිරිවල්
20 ලභනම් පුත්‍රලාභයද රුහුණින් ආ දූතයන් අතින් අසා සිය
බැයා කලුරියෙන් හටගත් ඉතා දුඃසහවූ ඒ සෝකවේගය
21 මිත්‍රාවගේ පුත්‍රොත්පත්තිප්‍රවෘත්තිශ්‍රවණයෙන් දුරුකොට ඒ
22 වසන්තකාලොත්සවයෙන් වැලැක්කේ සක්සෙනෙවියා
එහිම නවත්වා පුත්‍රහා සඞ්ඛත්ථලිනම් පුරයට ගියේය.

23 ඒ පැරකුම් කුමරුහා එහි සුවසේ වසන රජහට හවුරුද්
24 දක් ඉක්මින. මාණාභරණරජහු දෙවනබිසෝ ප්‍රභාවතීතොම
කිත්සිරිමේනම් පුතෙක්ලද. ඒ කීර්ත්තිශ්‍රීමේඝරජතෙමේ එ
25 පවතුදු අසා “ අපගේ වංශය මහත්විය ” යි එකල අතිසයින්
සතුටු විය.

26 ලක්දිව උපභොගකරන්ට අසහායවූ අසාධාරණ මහපින්
27 කම්න් මෙහෙයනලද ඒ කුමරතෙමේ පියහුවිසින් තමා
කෙරෙහි කරණුලබන ආදරසහිත මහත් නැලවිලලද, නො
28 යෙක් ඇමතියන් විසින් භයභක්තිපෙරටුකොට කරණුලබ
න උපස්ථානයද, තණපතටත් නොතකා වහා සියලු මේ
29 ලක්දිව එක් සේසතින් හොබවනු කැමතිවූ හේතෙමේ මෙ
30 සේ සිතීය “ මේ ද්වීපයතෙමේ සම්‍යක් සම්බුද්ධයන්ගේ කෙශ
ධාතුය අකුධාතුය ග්‍රීවාස්ථිධාතුය දංෂ්ට්‍රාධාතුය පාත්‍රධාතුය පාද
31 චෛත්‍යය මහාබොධිශාඛාය යන මොවුන්ටහා සම්‍යක් ස
ම්බුද්ධවරයන්වැනි සුවාසූදහසක් ධර්මස්කන්ධයන්ටත් නිත්‍යාධාර
32 බැවින්ද එසේම මණිමුක්තාදි වස්තූන්ට ආකරබැවිනුත්
33 විශිෂ්ටයයි සම්මතවූ නමුත් ඉතාමහත් නොවේ. මපියරජ
දරුවෝ තුන්දෙනාද එසේම මයිල්තෙමේද සර්වප්‍රකාරයෙන්
34 මේ දිවයින ඒකච්ඡත්‍රයෙන් පවත්වන්ට නොහැක්කෝ බෙදා
වලඳන්නෝ “ මෙ පමණකින් අපි කළකිස ඇත්තම්හ ” යි

35 සිතන්නාහු කුලොචිත අභිෂෙකයෙහි පහවූ ආසාඇත්තෝ
36 ගම්මුදළියන්සෙයින් කෘෂිකර්මාදිය ඇසිරුකළෝ සියසියරට
37 ඉසුරු පැවැත්වූහ. ඔවුන් අතුරෙන් මාගේ කුඩාපිය කිත්
සිරිමේ රජු තබා අනික් ඒ රජදරුවෝ තුන්දෙනා කම්වූ පරි
38 ද්දෙන් පරලොව ගියහ. අහෝමය මෙකල මනුෂ්‍යයන්ගේ
පරමායුතෙමේ ස්වල්පයෙක බාලයෝය තරුණයෝය මහල්
39 ලෝය යනමේ සත්ත්වයෝ ක්‍රමයෙන් මරණට පැමිනෙන්නා
හයි යනමේ නියමයද මේ ලෝකයෙහි කිසිකලෙකත් අවිද්‍ය
40 මානමැයි. අපවැනි රජකුමරුවන්විසින් බිඳෙන සුලුවූ සා
ර රහිතවූ සාර දර්ශීන්විසින් හෙළාදක්නා ලද්දාවූ ඒ මේ
41 සිරුරෙහි අපෙක්‍ෂාව සර්වප්‍රකාරයෙන්ම බැහැරලා ප්‍රාර්ථනා
42 කටයුතුවූ චිරස්ථායිවූ යසශ් ශරීරයෙහි සැමකල්හි ආදර කට
යුත්තේය—උම්මග්ගජාතකාදිවූබොහෝතැන බෝසත්හු
43 විසින් කරණලද වීරභාවාදි නිශ්‍රිත චරිතයද රාමායණභාර
තාදි ලෞකික කථාහිත් රාවණමැරූ ඒ රාමකුමරහු වික්‍රම
44 යද, දුයෝධනාදි රජුන් මරා පචපාණ්ඩුපුත්‍රයන්විසින් යුද්ධයෙ
45 හි පවත්වනලද වික්‍රමාතිශයද, ඉතිහාසකථායෙහි පෙර දෙ
වාසුරයුද්ධයෙහි දුෂ්‍යන්තාදි රජුන්විසින් කළ අද්භූත චරිත
46 යද,නන්දවංශයෙහි නරෙශවරයන් උන්මූලනය කළ ප්‍රසිද්ධ චා
47 නක්‍යනම් බ්‍රාහ්මණයාගේ නුවනශක්තියද, අසා ලොකයෙහි
සියලු මේ චරිතයෝ අද දවසදක්වා උන්ගේ සාමීප්‍යය නැති
48 වත් ලොකයෙහි සුප්‍රසිද්ධියට ගියාහුමැයි—යමෙක් මෙබ
ඳු අසාධාරණවූ උත්කෘෂ්ටචරිතයක් කරන්ට සමර්ථවෙත්නම්
49 ඔවුන්ගේ ජීවිතය ලොකයෙහි යහපත් ලාභයෙකි. ක්‍ෂත්‍ර
වංශයෙහි ඉපිද ක්‍ෂත්‍රවීරවරයන්ට සුදුස්සක් මම ඉදින් නො
50 කරනෙනම්නම් මාගේ මේ ජාතිතොමෝ හිස් වන්නීය. හු
දක් ඔවුන්ට කාලසම්පත්තියම අධික වීය. කිමෙක්ද ප්‍රඥ
ආදියෙන් ඔව්හු මටවඩා අධිකයෝද" යි සිතා "දැන් මපිය
51 රජතෙමේද පශ්චිමවයසෙහි සිටියේය ඉදින් පියාඅයත් මේ
රජය මා අත්පත්විනම් රාජ්‍යශ්‍රීවසගයෙන් යුක්තසිත්ඇති
52 මාගේ ප්‍රමාදයෙන් යථාභිප්‍රෙතය ඉදින් නොවිනම් අත්‍යර්ථ
යෙන් මට මහත් හානියෙක. ඉදින් මම මෙහිම වෙසෙමින්
53 සියචරයන් ඇවිදුවා තත්වූපරිද්දෙන් පරමණ්ඩලප්‍රවෘත්තිය ද
නිම්නම් පසමිතුරන්ගේ සිදුරු වූපරිද්දෙන් මාගේ අභිප්‍රායා
54 නුරූපකොට ප්‍රකාශකරණයෙහි චරයෝසමර්ථයෝහෝ නො
55 වෙද්ද මෙහි යම්පමණ ජනකෙනෙක්වෙත්නම් ඔහු සියල්
ලෝ මා හමුයෙහි සතුරන්ගේ බලාධික්‍යය නොයෙක්පරිද්
56 දෙන් කියත්මැයි. "එකිඑකී රට හිමිවූ (ඔබ) පියරජුන් තුන්

දෙනාවිසින් එක්ව සත්වරක් මහායුඩකොට සාධාගන්ට දුෂ්ක
57 රවූ රට හුදකලාවූ තරුණවූ එක්රටක් අනුභව කරන්නහුවි
58 සින් කෙසේ (සාධා) ගන්ට හැකිවන්නේද? මුල්වූ ඒ රාජ්‍යයා
ගේ සාධනය සුවසේ කටහැක්කැයි යන තාගේ මේ දුශ්චින්ති
59 තය දුරුකටයුතුය" යි කණෙහි රත්යවුල් එලන්නාසේ නො
යෙක් පරිද්දෙන් පරමඩලයෙහි මහිමය බොහෝකොට මෙ
60 සේ කියති. තත්වූ පරිදී නොදැන කියන්නාවූ දුර්බුඩීන්ගේ සි
යලු මේවචනය කිසි කලෙකත් ඇදහිය යුතු නො වන්නේය.
61 එහෙයින් එක් උපායකින් පරමඩලයටවහා ගොස්ම මම එහි
62 තත්වය දැනපීම්නම් යෙහෙකැ" යි සිතුයේය. "ඉදින් මපිය
63 මිහිපල්තෙමේ මේ සිතිවිලල දැන "අභිජාතවූ වංශය බබුළු
වන්නාවූ සතුරන් රටට ගිය මපුතුහට අනතරායකුදු වියහැ
64 ක්කේයයි අනුකම්පාබුඩීන් මා ගමන් වලකන්නේනම් සර්වප්‍ර
කාරයෙන් මාගේ මනදෙළ මුදුන්පත් නොවන්නේය එ හෙ
65 යින් වෙස් වලා යාම යෙහෙකැ" යි සිතා පසුව එක්දිනෙක රා
ත්‍රි කාලයෙහි එබඳු අවකාශයකුදුලැබ අක්ෂීණතරමහඋපාඇ
66 තෙත් සිය පියතෙමේ ඒ ගමන් යම්සේ නොදනිනම් එසේ
කල්දනනා චතුරවූ ඒකුමාරතෙමේ ගෙන් බැහැර නික්මිනි.

මෙතෙකින් හුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
පරමඩලාභිගමනනම්වූ සූසැටවන අදියර නිමි.

---

# 65 වෙනි පරිච්ඡෙදය.

---

1 සියඅවිදෙවෙනි කොට නික්මෙන උහු ඉදිරියෙහි එකෙ
2 ණෙහි කිසි සක්හඬක් නැංගේය. ඉක්බිති නොයෙක් නිමි
ති දන්නා කුමාරතෙමේ ඒ අසා "සඞ්කල්පයතෙමේ වහාම
3 සිඩවන්නේය" යි සතුටුවූයේ, ඒ ඒ තැන නියුක්ත ආරක්ෂක
ජනයන් නොදන්වාම පහවූ භයඇති සිංහපරාක්‍රම ඒ කුමාර
4 තෙම නුවරින් නික්ම වේගයෙන් පස්ගව්පමණ මග ගෙවා
5 ගොස් බදුලුතලා ගමට නුදුරු පෙදෙසෙක පිළිංවත්තැයිනම්
6 වූ එක්ගමකට එළඹියේය. තමා ඊමෙන් පෙරතුව (අවුත්)
7 පෙරමග හිඳිනට සියජනයන්ගේ සන්නිපාතපිණිස කළ අ
වධිඇති කුමාරතෙමේ එකල පිළිලද නියෝඇත්තන් අතු
රෙන් මදකෙනෙක්ම එහි අවුත් සිටියන් දැක "කිමෙක්ද
ආවෝ මෙපමණෙක්දැ" යි විචාළේය. ඉක්බිති ඔව්හු කුම
රහට මෙසේ කිවූය.

8 "ලෝ පවත් සියල්ලදන්නාවූත් ස්වාමීන් විසින් මෙසේ කුමක් කියනු ලැබේද? මරණභය විද්‍යමානනොවන්නේ කා 9 වද? ස්වාමිතෙමේ බාලබව අනුගතවූ ඊ නියා වයස්ව සිටීසේක. නුඹවහන්සේගේ තුඩ අඳදක්වාත් කිරිසුවඳ අමයි 10 ඔබවිසින් වෙන්කොට රැස්කරණලද වස්තුවෙක් නැත්තේමය. ඉන් අන්‍යවූ උපකරණ සාමාග්‍රියකුත් නැත්තේමය. 11 බොහෝකලක් ඉත පූරුදුවූ දැඩිව හටගත් ඇදිහිලි ඇති අප හැර ඔබඅනුව යන්නාවූ ජනයෝ කවුරුද? වැලි එකෙක් 12 ඇති ආවාවූ අපටත් නුඹවහන්සේගේ පියනරෙශ්වරතෙමේ මෙනම් දඬුවමක් කරවන්නේයයි සර්වප්‍රකාරයෙන් නොම 13 දන්නා ලැබේ. අපගේ අතරමග මහාවීර මහා බලඇති සඬබනම් සෙනෙවිතෙමේ රාජ්‍යසීමාන්තයෙහි වසන්නේ 14 (කුමක්කරන්නේද) අනික් පසමිතුරන් තබා මේ අපි තිප දෙනෙක් මිනිස්සු උනුන්කෙරෙහි නියතයෙන් අත්‍යර්ථවූ සැකයෙන් යුත් සිත් ඇත්තම්හ. දැන් අරුණොදගමවේලා 15 වද ඉතාආසන්නය" මෙසේ හෘදය ඇසුරුකළාවූ භීතිය වෙන්වෙන්ව ප්‍රකාශකළෝය.

16 උන් බස් අසා මිහිරි සිනා කොට සැකනැති ඒ කුමරතෙ 17 මේ ඔවුන් මුහුනු බලා "අහෝ මෙතුවක්කල් මොව්හු සියල් ලෝ මා සමග හැසිරත් මා නො හැඳින්නාහ. මොවුන් බිය 18 ඊනියාය" මෙසේ කියා එළඹ සිටි ඔවුන් භය දුරුකරණුවට සිංහ වික්‍රමඇති කුමාරතෙමේ එකල මහත් සිංහනාද කෙ 19 ළේය. "සියලු මිනිස්සු සිටිත්වා මා හස්තගතආයුධඇති කල තිපියාවූ සක්දෙව්රජතෙමේත් කුමක් කරන්නේද? මා 20 බාලයයි සිතන්නාවූ තොපට මෙබඳු දුර්මතියක් හටගත. තේ 21 ජසහා ආයුව පරීක්ෂාකරණුලැබෙයි; වයස නොවෙයි යනු කිමෙක්ද තොපවිසින් නො අසනලදද? අද මාවිසින් ක 22 රන්ට සිතනලද එක් ක්‍රියාවෙකින්ම සියරට පරරට වැස්සෝ යම්සේ මාකෙරෙහි භයහා භක්තිකෙරෙද්ද තෙපිත් යම්සේ 23 මේ භය හරිවූද මේ රැය පහන්වූකල ඇසිල්ලකින් එසේ මාගේ උදගුවූ ඥානබලයෙන් කටයුතුවූ විකුම් දක්වන්නෙම් 24 පියරජහු සේනාතොමෝ මා ලුහුබඳිනියයි ඉදින් තොපට භයෙක් ඇත්නම් තෙපි පෙරතු වව්" යයි උන්ට කියා ගන්නලද අව්ඇතිව නිර්භය ඒකක්‍රියාකොට ඇති වීරවූ (කුමරතෙ 25 මේ) ඒ ගම්න් පිටත්ව උදගිරිමුදුනසිටි හිරුමඬල දිනන්නට බට හිරිමුවින් නැගී අනික් හිරුමඬලක්සෙයින් පැතිරෙණ 26 තෙදින් ජනයන් නෙත්පියුම්වන පොබයමින් පෙරවරු බදුලු තලට පැමිනියේය.

27 ඉක්බිති සෙනෙවිතෙමේ ජයසක්හඬින් පිබිද භටගත් සම්භ්‍රමඇත්තේ වෙත පැමිනි රජකුමරු හැඳින මහබලසෙ
28 න් සමග පෙරගමන්කොට කරණලද ආදර ඇත්තේ සුදුසු
29 ප්‍රණාමනය කරන්ට මිහිතෙලෙහි නැබුරු විය. "මේතෙමේ ජීවත්වන්නේ අපට කවරවැඩක් කරන්නේද දැන්ම මැරිය
30 යුත්තේය" යි මුහුන බලනනාවූද භටයන් "නුදුටු අපරාධ ඇත්තක්හු මැරවීම පුරුෂබවට නුසුදුසුය විරුඬකල වධය
31 හැක්කැ" යි ඉඟියෙන් වලකා සිංහයෙකු බඳු ඒ කුමරතෙමේ
32 සෙනෙවියා අත ගෙණ මිහිරි වදන් කියමින් උහු මාලිගාව ටම ගියේය. ඉක්බිති සෙනෙවිතෙමේ "මොහු ගමන් රජහු නොදැනම විය යුතුයයි (සිතා) සම්තාක් ස්වභාව දනිම්නම්
33 එතෙක් මොහුකැටිව ආවෝ යම්සේ එක් නොවෙත් නම් එසේ වෙන් කොට තැබිය යුත්තාහ. කුමරතෙමේ මා ගෙයිම
34 වෙසේව" යි සිතා සෙනෙවිතෙමේ එසේම කොට මහපැණැති ඒ කුමරහු රවටන්ට ආගන්තුක සත්කාර දක්වා රජු කරා දූතයන් යැවිය.
35 ඉක්බිති කුමර උහුවිසින් කළ වචා දැන "මෙහි කටයුතු නොකොට ඉදින් මම උදාසීන වීම්නම් කිසිකලෙකත් මාගේ
36 මනොරථයාගේ නිෂ්පත්තිය නොවන්නේය. පළමුකොට දැන් මේතෙමේ අවශ්‍යයෙන් මැරවිය යුත්තේය" යි සිතා
37 එක්ව ආවක්හු මෙහෙයා සෙනෙවියා මැරවිය......සෙනෙවි
38 තෙමේ මරණලදැයි මහාකොලාහලවිය. සෙනෙවියා එක්භට යෙක් සෙනෙවිහු මැරවූවා අසා "මා හිමියා මරණය කවරකා
39 රණකින්ද" යි කියමින් කඩුගත් අත්ඇතිව සියහිමියාට පූ දනලදතමාදිවිඇතෙත්, එකලාව සිටිකුමරහුවෙත ලාහෙලා
40 දිව ආය. ඉක්බිති ඒතෙමේ කුමරහු මුහුන දැක හයින් වෙවුල මින් ඉදිරියෙහි සිටින්ටත් අසමත්ව පාමුල හින, කුමරහු "මො
41 හු ගණුව" යි කියන්නට පෙරතුවම කුමරහු සහචරයෙක්තෙ
42 මේ මේ හටයා මැරීය. "මා නියෝග නැතිව උහුවිසින් කළ කම් නොයෙදේ" යයි මොහුට සැහෙන දඬුවම්කරවී. ඉක්
43 බිති රජකුමරතෙමේ එකල හටගත් ඉතා බිහිසුනු සඬෙක්‍ෂා හය බැම බිදපියනපමණකින් සමනයට යැවිය.
44 යසස්ම උතුම් ධනකොටඇත්තාවූ ධෘතිමත්වූ වීරයන්ට උපකාරකරණයෙහි චතුරවූ ප්‍රවරකීර්තිසාරකොටඇති වීර කුමාරතෙමේ සෙනෙවියා රැස්කළ අනල්පවූ සියලු ධනය භට යන්ට රුචියගේ ආකාරයෙන් ගන්ට විසිරවී.

මෙතෙකින් හුදීජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස සෙනාපතිවධනම්වූ පන්සැටවන අදියර නිමි.

# 66 වෙනි පරිච්ඡේදය.

---

1 “සිතු අභීෂ්ය(සිඩ)කරන්ට ඉදින් අදම යෙම්නම් “කුමරතෙ
2 මේ බියෙන් ගියේය ” සි මේ ජනතෙමේ සිතන්නේය. නොවි
මසා සෙනෙවියා මරා හුන් මට මපියතෙමේ යමක් කෙරේ
3 නම් මෙහි සිටියේඒ දකිමි,, මෙසේ හටගත් සිතින් පඬිතයන්
අතුරෙන් ප්‍රවරවූ වීරතෙමේ කිහිප දවසක් එහිම පසුකෙළේ
4 ය. සෙනෙවියා හටයෝද රටවැසි බොහෝජනයෝද සෙනෙ
5 වියා මැරීම් නිමිත්තෙන් හටගත් මහාභයට පැමිනියෝයි.
ඒහෙයින් සියසියතැන්හි හිඳිනට නොපොහොසත්ව හාත්
6 පසින් අවුත් ඒ කුමරහු දුටහ. පියරජුට විලොම්ව වැටෙන
ඒ කුමරහු විසින් සෙනෙවියා මරණලදැයි සිතන රටවැස්සෝ
7 “ දැඩිව හටගත් භක්‍තිඇති අපවැනි බලවනතවූ දාසයන් ඇ
තිකල ස්වාමීහුගේ කවරකාරියක් සිඩකට නොහැක්කේද ?
8 ස්වාමීවූ (ඔබ) හින්දදී ඔබවහන්සේලාගේ පියසතු මේ රජය
ඔබපියපරම්පරාගත බාලකුමරතෙමේ මෙබඳුව කෙසේ අනු
9 භව කරන්නේද? අපි එක්වගෙණ සක්නාතල නුවර ගොස්
වස්තුගබඩාහා ඇතොවුරන් සහිත ඒ රජහු පැහැර ගෙ
10 ණෙම්හ ” සි මෙසේ දැඩියේ ගිවිස රජය ගැන්මෙහි හුදු තත්
පරකම් ඇති ඔව්හු පදවරසුන්කඩනම් තැනට ගියහ.
11 කුමරතෙමේ තමා අයත් කිහිපදෙනෙක් එහි යවා උන්
අතුරෙන් ඒ බලනායකයන් ගෙන්වා “ මාවිසින් පියරජුට වි
12 රුඬව සෙනෙවිමාරණය කරණලදැයි මෙසේ තෙපි නහමක්
සිතත්වා, මා කෙරෙහි තොපගේ කෝපය නහමක් වේවා ;
13 ඒකානතයෙන් මම පියරජහට විරුදුව නායෙමි; එ
සේම මේ රාජ්‍යභාගය තමා අයත් කරන්ට කැමැත්තෙම්ද
14 නොවෙමි; හුදක් අපවැනි පුතුන්ගේ අස්ථිත්‍වය තමන් මහළු
මව්පියන්ට මදකුත් නුරුස්සන්නක් නොකොට අනික් යම්
15 කිසිවක්හුවිසින් කරණ උපද්‍රවයනුත් වලකා හැමකල්හි ස
16 කස්‌ා උපස්ථාන කරන්ට නොවේද? තොපවිසින් මෙසේ කු
මක් සිතනලදදැ ” යි උන්ගේ (ආවේග) සිතිවිලි දුරලා මහා
17 පැණැති (කුමරතෙමේ) මත්තෙහි කටයුතු සිතන්නේ “ ඉ
දින් මෙහිම කීපදිනක් වසන්නෙම්නම් දුදනෝ අපපියපු
18 තුන් දෙදෙනා (උනුන්) බිඳුවන්නාහ. මෙයි කාලහරණය
නොකොට පෙර සිතු දැයගේ සිඩිපිණිස ඒතාක් දැන් මෙතැ

19 නින් යන්ට වටීය" යි නිශ්චය කොටගෙණ ඉක්බිති සිරිදෙවි සාගලවෙත බුදුගම බලා යන්ට රජකුමරතෙම බදුලුතලා 20 ගමින් නික්මිනි. එකල රටවැස්සෝ කැටිවගෙණ (කුමරහු) සිරියාලනම් ගමට එලඹෙන්ට පෙරතුව වෙන්වෙන්ව පලා ගියහ.

21 එකල කුමරතෙමේ තමා අනුගත සියපිරිවරින් යුක්තවූයේ අවියෙන් සැරසෙනලදුව වීයෂීගුණෝපේතවූයේ මහ 22 මගට පිළිපන. "සෙනෙවියා නැසූ කුමරහු පලායන්නා නොසලකා හැර අපවිසින් ආහාරදායක ස්වාමියාකෙරෙහි ක 23 වර පක්ෂපාතයක් කරණලද්දේද ?" මෙසේ කිහිප ධූතීකෙනෙක් කළ උපක්‍රමඇතෙතෝ අතරමග යන ඒ කුමරහු ගන්ට 24 පිටිපස ලුහුබැන්දෙයි. එකල රාජපුත්‍රතෙමේ උන්කෙරෙහි මදකුත් සැක නොකොට ස්වකීයහස්තගත කඩුවෙන් යුද 25 කොට උන් පලවා කැටිව ආවුන් ගෙණ නොදක්නාලද පිරිහීම් ඇත්තාවූ බියඉක්මවූ මහනැණැති කුමර බුදුගමට එ ලඹියේය,

26 එහි වසන කුමරහට කිහිපදිනක් පසුවූකල "කුමරහු ග 27 ණුම්හ" යි කැටිවූ රටවැස්සෝ මහාවේගයෙන් නිරතුරුව භී වැසිවස්වන්නෝ යුදපැටිවනුකැමැත්තෝ ඒ ගම වටලූහ. "එ 28 සින් වැඩඇතිකල අපි(ස්වකීය)ප්‍රාණයන් පරිත්‍යාගකරම්හ" යි උහුගා කැටිව ආ භටයෝ හයින් ව්‍යාකූලව රජපිත්හුගේ සේ 29 සත්කඩු ගෙණ යන මිනිසුන් තබා රජකුමරහු බලාහින්දදීම 30 ඔබ්නොබ පලාගියහ. ඒ කුමර පලායන සිය භටයන් දැක මද 31 කොට සිනාසී ඉතා උදාර වික්‍රමය දක්වන්ට ලදඅවසර ඇත්තේ "අවියෙන්ම බිය ගන්වා සතුරන් පලවන්නෙමි කියා ක 32 ඩුව ගෙණෙව" යි මහා වේගයෙන් බිණීය. ධීර ගම්භීර ගුණයෙන් යුක්ත උහුගේ බස්සමග දිග්වලයෙහි පතළ ජයසක් 33 හඬ අසා කිසි සතුරුවීරකෙනෙකුන්ගේ සිදී හුනු හිස් දැක ඒ කුමරහුගේ පළමු පැලැ භටයෝ පෙරලා අවුත් නොයෙක් 34 දහස් ඒ බලසෙන් යුද කොට පලවා පිරිවරාගෙණ කුමරුගේම විකුම් පැසැස්සෝය.

35 ඉක්බිති කුමරතෙමේ ඒ බුදුගම්හි වෙසෙමින් ගජබාරජහුගේ (සාමන්තවූ) කළාවැව සිටි ගොකණ් නගරගිරිහු 36 කැඳවා උහු සිත්පවත් දන්නාකැමැත්තේ තමන්ගේ ලිය මන් ගත් අත්ඇති ස්වකීයදූත මිනිසෙක් එහි යැවී. සාමන් 37 ත තෙමේද ඒ පත දැක හිසින් පිළිගෙණ කියවා ඉන් සියලු 38 පවතුත් දැන ඒ රජකුමරහු මහත්තෙජින් හසුන් ඉක්මීම නො හැකිබැව් සිතන්නේ එකල සියරජහු අදහස් දැන්මෙ

39 හිත් සර්වප්‍රකාරයෙන් අපෙක්ෂානැතිව බුදුගමට අවුදින් සා
40 දරයෙන් කුමරහු දිට "පියරජහු වෙතින් මා ආවාවූ ආකා
41 රත් ලාහෙලා බලතරසෙනෙවියා මැරවීමත් පසුපස්සෙහි
එලවන සතුරුසේනාවට මා විසින්කළ විස්මය එලවන වික්‍ර
42 මයත් අසා ස්වකීයරජහු අභිප්‍රාය දැන්මෙහි සිතකුත් නුපදවා
පෙරපුරුදු නැතිවම මා විසින් යැවූ දූතයාත් යවනලද පත්‍ර
43 යත් දැකම අවුදින් මා දැකුම් කරණ තාවිසින් මැනවක් කර
44 ණ ලදැ" යි සතුටුවූ ඒ ස්වාමිතෙමේ තමා පැලඳි නොයෙක්
මාහැඟි රුවන් අබරණසියල්ල උතුම්ඇතෙකුත් සමග උහුට
45 දිනි. පසුව උහුගේ බලනායකයන්ටද මාහැඟි මිණිකො
ඩොල් ආදිවූ ඉතා අගණ අබරණ දී වාසගෘහ ආහාරදානාදී
46 විධියෙන් කළ සඟ්‍රහඇති ඒ ඇමත්තහු සියසෙන්හා විශ්‍රාම
පිණිස එතැනින් යැවීය.

47 ඉක්බිති ඒතෙමේ රෑ අවසට එලඹ එහිදී සිහිනෙන් සෙ
නෙවියාමැරූවා සෙයින් කුමරහු නියෝගයෙන් අවිගත් අත්
48 ඇති රෞද්‍රයන්විසින් තමාමරණට හාත්පසින් වටලූවාක්
මෙන් දැක මරණභයින් පෙළුනේ පසුව වියරු හඬින් මුර
49 ගාමින් ඇඳෙන් බිම හී සියකගකුඩගන්නවුන් පවා අපෙ
ක්ෂානොකොට තමාහා ආ සියලු ඒ බලසෙන්ද හැර දිසා
50 ව්‍යවස්ථානයත් කොටගතනොහැකිව මහවලට වැද එහි
51 මංමුළාව ඇවිදිමින් උදෑසන කළාවැව් යන මං දැන යුහුවම
52 එයින්ගොස් සියගමට වන ------ උහු සේනාද සියහිමියා පලා
53 ගියා අසා අනික් ආරක්ෂාවක් නොදක්නි මහබියෙන් වෙවු
ලාගියා සියසිය අවිදු එහිම දමා සියහිමියාසේ මංමුළාවූවෝ
54 වෙනෙහි ඇවිද උදෑසන්හී වහාම කළාවැව් පැමිනියාය ------
55 ඒ ඇමතියා පැලැපවත් අසා ඒ කුමරතෙමේ සිනාසී එහිම
කිහිප දවසක් ගෙවූයේසි. එකල නානාභාෂ්‍ය රසදන්නා
56 උහුගේ උකටලීකාලයෙහි ඒ කථාතොමෝම උකටලී දුර
ලීමෙහි හේතුවී.

57 කිත්සිරිමේ රජතෙමේ සියලු මෙපවත් අසා මහඇමතියන්
කැඳවා ඔවුන්හා මන්ත්‍රණය කෙළේසි. "කුමරතෙමේ
58 දැඩි අරකුන්ඇති ඇමතියන් වසන නොයෙක් භටයන්ගෙන්
ආකීර්ණවූ මේ නුවරින් වෙස්වලා නික්මීන. පසුව රැස්වූ බූති
59 යන් කිපදෙනෙක්හා එක්ව අකෘත්‍යකාරී ඒ මිනිසුන්හා ප
60 ලාගොස් රජයෙහි මා ඇමත්තන් අතුරෙන් අතිබලි සෙනෙ
වියා මරා උහුවිසින් රැස්කළ වස්තුසාරය සියල්ලගෙණ එයි
61 නුත් පලායන්නාවූ හේතෙමේ පසුපස්සෙහි ලුහුබඳනා බො
හෝ ජානපදිකභටයන් ඒ ඒ තැන මරා ගජබාරජහු (අයත්)

62 ගොකණ්ණනගරගිරිනම් (සෙනෙවියා) ගෙන්වා බුදුගමවෙ
සෙමින් වසඟ කෙළේල—මේ උපෙක්‍ෂාවට කල්නො
63 වෙයි මෙබඳු සිදුරක් ඇතිකල සතුරෝ මහපින්ඇති ප්‍රඥ
64 වික්‍රමයෙන්යුක්ත මේ කුමරුහා කූටසන්ධිකොටගෙණ ඉදින්
යුද්ධාරම්භයට සිත් ඉපදවූනම් අපට මහත් හානි වන්නේය.
65 යම්තාක් අනික් දුශ්චින්තාවක් නොසිතන්නේනම් ඒතාක්
66 මේතෙමේ එම ගම හූන්නේම ගතයුත්තේය" යි නිශ්චය
කොට සෙන්ය මිහිඳුය යන ප්‍රසිඬඅදිකාරම් දෙදෙනාද එ
67 සේම දෙවපාදමූලකදරු මහලේනාද යනමොවුන්හා අනික්
ඇමතියනුත් තමාවෙතට කැඳවා "මාගේ රජයෙහි අවියෙන්
68 ඇිවිවැටුම්කරණ යම් කිසිවෙක් වෙසෙත්නම් මුන්සියල්ලම
එක්කොටගෙණ වහාගොස් බලාත්කාරයෙන් ඒ කුමරු
ගෙණෙව" යි කියා ඔවුන් එහි යැවිය,

69 මහාබලඇති ඔව්හු සියසිය මහසෙන් ගෙණ සිරියාලගම්
70 වෙතට ගියෝ දසකොටස්ව බෙදුනාහ—කුමරද එප
වත් අසා "මම එබඳු දුර්ගයක සිට දසකොටස්ව බෙදී එනබ
71 ලය එක්මුඛ කොට වහා උන්මූලනය කෙරෙමි" සිතා ඉක්බිති
වීරතෙමේ මහාතිලනම් පෙදෙස විල්ගමට ගියේය. ඇමති
72 යෝද "ඒ කුමාරතෙමේ ඉදින් එයිනුත් පලාගොස් පර්වත
73 යෙන් ගහනවූ මහාදුර්ගප්‍රදෙශයකට ප්‍රවිෂ්ටවීනම් කිසිඋපාය
කිනුත් උහු ගැන්ම දුෂ්කරය" යි සිතා ඔහු සියල්ලෝ එක්දෙ
74 සක් බලා එහිම එලඹියහ—කුමරතෙමේද ඒ අසා සි
තුවා සිඬපිණ්ස සතුටුවූයේය. වදනාසේනාවට ඉදිරියෙන් අ
75 වසර තබා දූත මාර්ගයන්හි ගූඪාකාරයෙන් මොනවට සැරසූ
නාවූ වීරයයි සම්මතවූ බොහෝවූ සියමිනිසුන් යොදා යුද්ධො
76 පායෙහි පඬිතවූ බලීකුමරතෙමේ රිපුසෙන් සියල්ල මැදට
වන්නා දැන බොහෝ වීරයන් මැරවී. මරණලදින් ඉතිරිවූ
77 ජනසමූහයා සර්වප්‍රකාරයෙන් දමනලද අවිඇත්තෝ නැව
ත යුද්ධයට ආසානැතිව ඇත මැත පැලහ. එකල ජයඇති
78 රජකුමරතෙමේ එතනින් නික්ම පියහු සිත්රක්නා සඳහා
බෝගම් වරට ගියේයි.

79 වීරවූ ඒ කුමර එහි කිහිපදවසක් පසුකොට පියරජහුගේ
80 මෙහෙසීමෙන් යුදපිණ්ස පසුව ආවාවූ සේනාව එහිදිම බිඳ
පලවා ඒ ගම්නුත් ලග්ගලපෙදෙස රණඹූරනම් ගමට ගි
81 යේයි. පසුව තීරවූ ඒ කුමරතෙමේ සියහටයන් ගමන් විඩා
සන්සිඳුවන්ට එහි වෙසෙමින් කිහිපදවසක් ගෙවා "මොව්හු
82 සියල්ලෝ යුඬයෙහි මාවිසින් නොයෙක්වර බිඳුනාලද්දාහු
නමුත් පියරජහුකෙරෙහි භයින් යුඬයෙහි නිරුත්සාහවූවෝ

83 පලානොයති. "මේ කුමරතෙමේ දුගීයෙහි සිටිහෙයින් අප අතට නොඑන්නේය" යි යන දුර්මන්ත්‍රිවූ ඔවුන්ගේ දුෂචිනාති
84 තය යම්හෙයකින් විද "එහෙයින් දැන් මම මේ උන්වසන තැනටම එළඹ උන්ගේදුෂචිනාචිතය දුරුකරන්නෙමි" සිතා
85 සෙනග සිටියාවූ ඝිරිවැගමට යමින් අඹවෙනනම් පෙදෙ
86 සට පිවිස එහි සිටියේ ඒ ගම්වැස්සන් අතින් තත්වූ පරිද්දෙ
87 න් ඔවුන්ගේ සචාර දත්තේ තෙමේම සවස ඉන් නික්ම රාත්‍රිභාගයෙහි ඒ ගමට එළඹියේය. උහුගේ භටයෝ කටු
88 වෙන් බිහිසුනුවූ තියුණු අග්‍රප්‍රදෙශඇති වැට ගැටි ප්‍රවෙශයෙහි අසමණුවූවෝ බැහැර සිටියහ. තෙමේ පෙරටුව වැට බිඳ බියරහිතව වන්නේය. වීරවූ ඒ කුමරතෙමේ ගමමැද
89 සිටියේ සියනමද ඇස්වී. එකල්හි ඒ රජකුමරහුගේ අද්භුත වික්‍රමය පෙර දුටු ඒ සතුරෝ ගැඹුරු ඒ නාදය අසා භයින් මිරි
90 කුනෝ සියල්ලෝ ඍඃනීය වසත්‍රායුධයෙහිදු සිහිමුළාවූවෝ සිංහයා දැක මුවන් සෙයින් ඒ ඒ අත දිවපුහ. උහු පිවිසි
91 මගින් උහුගේ භටයෝද පිවිස දුටුදුටුවන් මැරූහ. ගම ගිනි
92 ලූහ. එකෙණෙහිම රජකුමරතෙමේ නැව්ගලනම් ගමට ගොස් විඩාසන්සිඳුවමින් එහි අරුණු නැගීය.

93 එකල්හි පියරජහුගේ ඒ ඇමතියෝ එක්ව ඒ ඒ යුඩයෙහි
94 (කුමරහු) මහත්උත්සාහය සර්වප්‍රකාරයෙන් මනාත්‍රණය කළහ. "නොයෙක් දහස් ගණන් බලසෙන් ගෙණ සිය සෙත්
95 නසා කුමරහු ගණුම්හයි වෙගයෙන් (ගොස්) හැමතැන යුදෙහි පලායන්නාවූ සියල්ලන්විසින් හුදක් ඒ කුමාරයාගේ
96 තෙජස් ප්‍රකාශනය අත්‍යර්ථයෙන් කරණලද්දේය. නොයෙක්වර රජහුවිසින් මෙහයනලද හස්නද බිය එලවයි.
97 මෙහි අප උපෙක්‍ෂාවනකල බන්ධූන්ගේ ජීවිතය නැත්තේය. යම්කිසි උපායකින් රජහු අණසිඳුපිණිස උත්සාහ නොකොට කල්යැවීම යුතුනොවේ. සියපණ 'ඉවතලාත්
98 පෝසනය කළ හිමියන් සතුටුකරවා බන්ධුපාලනයම කට
99 යුතුයි" ——මෙසේ යුහුසුලුවූ මහබල ඇති ඒ සියල්ලෝ මොනවට සැරසෙනලදුව චරයන්විසින් කියනලද මගින්
100 මරසෙනගක් සෙයින් නික්මුනාහ. සතරඅිග දෙරින් ගමට වැද ඉකාබිතිව කුමාරයාගේ ගෙය හාත්පසින් ඇවුරූහ.
101 සිහිල්අධික පෙදෙස්හෙයින් රත්පලසක් පොරෝණලද්දේ බාලවයසට ඔබිනා කෙළියකින් කෙළමින් හුන්නේය.
102 එකල්හි ඒ කුමරතෙමේ උදෙඝාෂණයෙන් සතුරන් ඉතා ආසන්නවූවන් දැන එකෙණෙහි සියපිරිවරින් එකෙකුත්
103 නොදැක දැඩිකොට සිළුව බැඳගෙණ පෙරව් පලසම ඉතා

දැඩිකොට හැඳ කඩුගත් අත්ඇත්තේ බිහිසුනු රස දක්වා
104 යුදමැද වැද කෙසරසිංහයෙකු ඇතුන්සෙයින් ඒ සියලු
සතුරන් ඇසිල්ලෙකින් දිශානානාභිමුඛ කෙළේය. මහකො
105 ලහලින් බියගෙණ වල්වන් කැට්ව ආ සියජනයා හඬගා එ
106 ක්කොටගෙණ "පියරජහු තබා විපක්ෂරජහට මෙහි ආ ක
107 රුණු කිමෙක්දැයි යම්සැකයෙක් උපදනේද එය සර්වප්‍රකාර
යෙන් වලකන්ට සෙනෙවියා මැරවීම්ආදී මේ සියල්ල පම
108 ණි. දැන් පරමඬලයට යායුතුය" මෙසේ(නියමකොට ගෙණ)
109 එතැනින් යමින් පොරෝගාහලකඩනම් තැනාදිලෙහෙයෙන්
සම්බන්ධවූ කඩුව දියෙන් තෙම්මෙන් අතින් ගලවා ලේ ඉසුනු
110 හැඳි ඒ උතුරුසළුවද පහකොට පෙරළනලද වස්ත්‍රඇත්
111 තාවූ ඒතෙමේ විශ්‍රාමසුව අනුභවකොට පියරජහුගේ රටසීමා
පසුකොට ගජබා රජහු රට දනව්වානම් තැනට එලඹියේය,
112 හේතෙමේ ඒ පෙදෙසට සුදුසුනොයෙක් ක්‍රීඩාවිනොදයෙන්
එහි වෙසෙමින් කිහිප දිනක් ගෙවූයේය.

113 ඉක්බිති ගජබාරජතෙමේ කුමරහු ආ පිළිවෙළ තමා
රක්නාවුන්ගේ මුවෙන් අසා අත්‍යර්ථයෙන් හටගත් ආදර
ඇත්තේ සිය ඇමතියන්හා මන්ත්‍රණය කොට කරණ
114 ලද කර්තව්‍යනියමඇති හේතෙමේ උහුට වස්ත්‍රාභරණාදී ප
ඬුරු යවමින් "මා මයිල් රජහුවෙතින් තොපගේ ආගමන
115 යද අතරමග තොපවිසින් කළ අතිශයවික්‍රමයද අවුදින් මා
ගේ රට අනික් තැනෙක ප්‍රවෙශයද අසා ඉල්පෙන ප්‍රීතියෙන්
116 මාගේ චිත්තයතෙමේ පිරීමට ගියේය. මා ඇර තොපට ඇ
වැස්සනෑයෝහෝ කවුරුද තොපගේ දර්ශනය ඒකාන්තයෙන්
117 මට අභිෂෙක මඟුල්නම්වෙයි, මාගේ මයිල්රජතෙමේ තමා
මහළු අවස්ථායෙහි මෙබඳු පුත්‍රුවනක් හෘස්ථසාර වස්තුවක්
118 මෙන් නොකොට යම්හෙයකින් කිසි දුර්ණයකින් මාගේ හස්ත
යට පැමිනවීද මේතෙමේ මහත් කුශලකර්මයාගේ ඒකාන්ත
119 උද්ගමයෙකි. දැන් අපදෙන්නා තියතින් එක්වූකල කවර සතු
රෙක්නම් යුදපැටිවෙද්ද? ලබනලදවාතයාගේ මිත්‍රතා ඇ
120 ති ගිනිසෙයින් දැන් මාගේ ප්‍රතාපයතෙමේ සර්වප්‍රකාරයෙන්
121 ඉතා මහත් වන්නේය. ඔව්නොවූන් දුටුකල පියන්සතු රජ
යෙහි කුමරහු වහා පිහිටවීම මට බරෙක්නොවේ. අතර(මග)
122 කල්ගෙවීම් නොකොට මාගේ දර්ශනය කටයුතුය"යි කියා
සියදූතයන් යැවිය. උන්අතින් එ පවත් අසා විචාරක්ෂම ප්‍රඥ
ඇති කුමරතෙමේ "ක්ෂත්‍රියයන්ගේ වනාහි සර්වප්‍රකාරයෙන්
123 අතිශයින් දතනොහැකි මායා ඇත්තාහ. (එහෙයින්මේ)වි
124 මසාම යනෙනමැ" යි උපාය දන්නා නිමිලනම් එක්භටයෙක්

ඒ දූතයන්හා සවා රාජන්‍යතෙමේ රජහුගේද ඉන් අනික් ම
125 නත්‍රීන්ගේද (අදහස්) වූ පරිද්දෙන් දැන පොළොන්නරුවෙ
ත ගියේය.

126 ඉක්බිති ගජබාරජතෙමේ සියසෙන් පිරිවරා පෙරමගට
අවුත් කරණලද නොයෙක් උපචාරඇත්තේ ප්‍රීතිවෙග ඇ
127 තිව තමා නැගි ඇතුපිටට ඒ කුමරු නංවාගෙණ නුවර
සම්පත් දක්වමින් රජමැදුරට වන. කුමරතෙමේ ගජබාරජ
128 හු දැකීමෙන් හටගත් සන්තෝෂය ප්‍රකාශ කෙරෙමින් කිහිප
දිනක් ගෙවා ඒ රජහුගේ බැහැර මඩුලු වැසි ජනයන් කෙ
129 රෙන් ආදරඇත්තවුන්හා එසේම කලකිරුණන් මොනවට
දන්නාපිණිස නොයෙක් උපාදන්නා එසේම නානාදෙශ
130 භාෂායෙහි දක්‍ෂවූ ස්වාමිභක්තිපූරස්සරකොට ඇති කිසි (චර
පුරුෂ) කෙනෙක් තොරාගෙණ උන්අතුරෙනුදු විෂ වෙද
131 කම්හි නිපුණ කිසිජනකෙනෙක් නයිකෙළවන්නවුන්
132 සෙයින් හැසිරවී. විධානයෙහි දක්‍ෂ ඒකුමරතෙමේ සාමුද්‍රි
කාදී නොයෙක් ලක්‍ෂණදන්නා ජනයන්ද වෙණවයන සැ
133 ඩොල් බමුණුආකාර දරන්නවුන්ද කෙළේය. දෙමළආදී
නොයෙක් දෙනා අතුරෙන් සම්රූආදී කෙළි දක්වන්නවුන්
134 බඳුකොට හැසිරවී. කඳමුදුවලලුආදී බඩු ඇරගෙණ හැසි
රෙන්ට සවනීයආකාර වර්ජිත කළ කිසිවෙක් සැලසී· කුඩ
135 සැරයටි ආදී පිරිකර ගෙණ ගන්නාලද තාපසලිලාඇති සඳ
136 හැඇත්තවුන් සෙයින්ව ගමක් ගමක් පාසා චෛත්‍යවඳනා
කරන්නවුන් සෙයින් යම්සේ ඇවිදිද්ද එසේ අණ කොට කිසි
137 වෙක් යැවීය. ගම්නියම්ගම්හි වෙදකම්කරමින් හැසිරෙන්ට
පිළියම්හි දක්‍ෂ කිසිවෙක් යෙදීය. (තවද) ඒ කුමර අක්‍ෂර
138 විද්‍යා ආයුධවිද්‍යාහි බාලයන් හික්මවනු දන්නවුන්ද එසේම
රසක්‍රියා දන්නවුන්ද එසේම භූතවිද්‍යාදන්නවුන්ද රන්කම්
139 ආදියෙහි නිපුණ නොයෙක්ශිල්පීන්ද ඒ ඒ කම් කෙරෙමින්
හැසිරෙන්ට අණ කොළේය.

140 තෙමේ ඇතුළුමඩුල්ල ඇසුරුකළ තත්වය දන්නාකැමැත්
තේ තමාවෙත අවුත් එක්ව කථාකිරීම් ව්‍යාජයෙන් ඒ රජහු
141 ගේ නිතියෙන් සිදුරුසොයන මිනිසුන්කෙරෙහි අත්‍යන්ත
බාලබවෙන් හටගත් තුනුවන දක්වන්නාක්හු සෙයින් ප්‍රධා
142 නාමාත්‍ය සාමන්තභටාදින් අතුරෙන් ඉතා මන්ඇත්තවුන්ද
දඩියේ කිපියන්ද එසේම භයවූවන්ද ලොභඇත්තවුන්ද
වෙන්කොට දත්තේය.

143 ඒ ඒ මිනිසුන්කෙරෙහි සුදුසු උපායකිරීමෙහි චතුරවූ ඉති
හාස පුරාණාදී නොයෙක් පැවති කථාදන්නා ගන්නාලද

144 මහණවෙස්ඇති චරපුරුෂයෝ ඒ ඒ ගෙවල් ඇසුරුකළෝ
දැඩිකොට හටගන්නාලද විස්වාසඇතිව ලබනලද පසඟා
145 පයුරුපාසනඇත්තෝ අවවාද දෑයක තනතුරෙහි සිට ඒ මී
නිසුන් බිඳුවා සමබන්ධයට යම්සේ පමුනුවද්ද එබඳුවූ විධානද
146 කෙළේය.—"රජු නිසැකබවට පැමිනිකල කැමති පරිද්
දෙන් ඇසිර එහි ඇතුළුනා පැවති සියලල සුවසේ මාවිසින්
147 දතහැක්ක" යි කියා ඒතෙමේ රුහුණුවසන මැනියන්ට පත්
148 යවා සියනෑගණිවූ රූපත් භද්‍රවතීනම් කුමරියද ඒ කුමරිය
ගේ වස්තුවභජයෙන් බොහෝවූ වස්තුද ගෙන්වා ඒ වස්තුව
149 තමා අත්පත්කොටගෙණ ගජබාරජහට ඒ කුමරිය පාවා
දී තමාකෙරෙහි විස්වස්සිත්බවට ඒ රජු පැමිනවිය. ප
150 සුව රජකුලයද මදවහනයවන ඇතෙකු කරණකොට
ගණ නිත්‍යක්‍රීඩාව්‍යපදෙශයෙන් විජ්ඣචාරය කෙරෙමින්
151 උහුවිසින් ලුහුබඳනාලද්දේ වහා දුරදිවීම් ව්‍යාජයෙන් ය
මෙක් වසඟකටයුත්තෝනම් හේතෙමේ උන්ගේ ගෙයක්
152 පාසා වැද උන්ට සුදුසුවූ මාහැඟි ආභරණාදි ධනය දෙමින්
ඉතා රහස් ආකාරයෙන් උන්සියලල සියවසඟයට පැමිනවී.
153 නිහිනයන් අන්‍යකොට ඇති සියල්ලෝද නුවරවැසි භට
යෝද "මේතෙමේ මාගේම අනුග්‍රහය"සි වෙන් වෙන්වම සි
154 තුය. ඉක්බිති උහුගේ වස්තූන්ගේද ධාන්‍යරාශීන්ගේද සේ
නාවගේද එසේම නොයෙක් යුධොපකරණයන්ගේද ප්‍රමා
155 ණය කරන්ට නිපුණවූ ඒ කුමාරතෙම සියලියන්නන් යොදා
156 නගරාරක්ෂණයෙහි නියුක්තවූවන්ගේද එසේම සේනා නා
යකයන්ගේද චිත්තසඞ්කල්පනා දන්නට කිසිවෙක් එහි නො
157 යවා තෙමේ බාලක්‍රීඩාවභජයෙන් ඒ ඒ තැන හැසිරෙමින්
උභයමඬලව්‍යත්තාන්තය ව්‍යසන ඉක්මගියේ නිශ්චය කෙ
ළේය.

158 මෙසේ පූර්වෝපචිතවූ උස් කුශලකර්මයෙන් යුක්තසත්වයන්
විසින් යොදනලද සියලු ප්‍රයෝගයෝ කිසිවිඝාතකාරණයකට
නොපැමිනා මුදුන්පත්බවට එන්නාහයි දැන නිපුණු නුවනැ
ති සත්වතෙමේ පින් කරන්නේය.

මෙතෙකින් භූදීජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහ
වස පරමඬලප්‍රව්‍යත්තිනිර්ණයනම්වූ සැට සවෙනි අදියර
නිමි.

# 67 වෙනි පරිච්ඡේදය.

1 නැවත එක්දිනෙක රජකුමරතෙමේ වාහනයකට නැගී
2 අනුවයන පිරිස් ඇතිව රාජවීථියෙහි යෙයි. දම්බිඳගත් දරු
ණුවූ මීමදයෙක් දුටුදුටුවන් අනිමින් කොපුල්හි එලනලද
3 රතැස්ඇත්තේ උහු ඉදිරියට වන. අභිමුඛව හෙන්නාවූ උහු
දැක වාහනය ගෙණයන්නෝද එක්වයන මිනිස්සුද භයින්
4 ආකුලව වහා පැලහ. එකල වීරවූ රජකුමර “ මොවුන් සෙ
සින් දිවීම මට අනුරූප නොවේමය ” යි සැකනැතිව පහවූහ
5 ය ඇත්තේ තෙමේ වහා උහුගේ ඉදිරියටම පැන ගැඹුරුවූ
6 මඟහඬින් යුක්තවූ බසින් ලාහෙලා බිණීය. ඒ මහිසතෙමේ
සිංහනාදය අසමින්ම බියෙන් ආපසුහැරී අභිමුඛ අභිමුඛවූ
7 මිනිසුන් අනිමින් හෙලමින් දිවීය. යමෙක් ඒ අරුමය හමු
යෙහි දුටුද එසේම ඇසූද ඒ සියල්ලෝ විස්මිතවූවාහු සතුති
8 යෙන් යුක්ත (මෙබඳු) වදන් (කියන්නෝ) “ තෙජස්ඇති බ
වක් දකු, වික්‍රමයක් බල, නිර්විකාරීබව දකු, මුහුගේ ප්‍රගල්භ
තායක් බල, පූර්ණභදයත් බලව ” යි කීහූ.
9 ගජබාරජතෙමේද ජනයන්විසින් කරණලබන වික්‍රමාදි
10 ගුණ ඇසුරුකළ උහුගේ කීර්තිය අසා “ මේතෙමේ අනන්‍ය
සාධාරණවූ උදග්‍රතෙජසින්හා භීමවික්‍රමයෙන් යුක්ත මහා පු
11 රුෂයෙක්මය ” යි උහුකෙරෙහි සැක ඉපදවී—එකල මහී
පාලපුත්‍රතෙමේ ගජබාරජහට උපන් ඒ දුඃසඞ්කල්පනා දැන
12 මෙසේ සිතීය. “ මම ඉදින් මෙහිම වෙසෙමින් රජය අත්
පත් කරන්නෙම්නම් බැම නගන පමණකින් ඒ සැදෙයි
13 ඊට සැකනැත්. එසේකල මාගේ ප්‍රතාපයද වික්‍රමාතිශයද
14 බාහුබලයද ලොකයෙහි ප්‍රසිද්ධියට නොයෙයි. යුද්ධක්‍රීඩා
කෞතුකයෙන් විනා මාගේ අත්‍යර්ථවූ ඔඳවැඩි බාහුකණ්ඩුතිප්‍ර
15 ශමයත් නොවන්නේමැයි. එහෙයින් සියරටට ගොස් රණ
කෙළියෙන්ම මිරිකා ඇමතියන්සහිත මේරජහු ජීවග්‍රාහ
16 යෙන් ගෙණ පියවූ කිත්සිරිමේරජහු මේනුවරට ගෙණවුත්
17 උහුමත දෙනලබන අබිසෙව්දියෙන් පියන් තුන්දෙනාගේ
පරාජයකිලිට ඉදින් මම සුඩකෙළෙම්නම් මෙසේකල මාගේ
තෙජස දඹදිව්හිද පැතිරෙන්නේ ” යි.

18 ඉක්බිතිව නුවර සාධනයෙහි සෙන්වදනා මගද බැහැර
යනකරුණු ඇතිකල නිකුත්වීමට මගද ස්විකීය චරයන්ට
19 සුදුසු මගද නානාමාර්ගවිභාග දන්නා ඒ කුමරතෙමේ වැද්

දන් ගෙන් සුවිනිශ්චිත කොට ගෙණ තෙමේද අඩකෙළිඋපා
20 යෙන් නුවරවෙත වෙනෙහි ඇවිදිමින් නොයෙක් සලකුණුකි
යායෙන් නොයෙක් මාර්ගහා අතුමාර්ග දැනගත්තේය. "කාල
21 යාගේ අතික්‍රමයෙහි කාලයතෙමේ එහි රසබොන්නේයි" යන
වෘඩවචනය මෙනෙහි කෙරෙමින් එකල් සියරටට යනුකැ
22 මැත්තේ තමාකැටිව ආ මිනිසුන් දනව්වානම් තැන රැස්වී
මට කරණලද අවධිඇතිව බොහෝසෙයින් පළමුකොට යැවී
23 ය. "මෙතෙක්කල් වැස නොදන්වා නික්මයාම මාගේ පිරිමි
24 කමට තරම් නොවේය" යි සිතා පසුව සන්ධ්‍යාකාලයෙහි අබ
රණින් මොනවට සැරහී ගජබාම්හිපල්හු වෙත එළඹ සිටි
25 යේ; නොයෙක් කෙළිසතුටුඇති සැන්දෑකාලය පැමිනි කල
මතුහාස පෙරටුකොට පරිහාසොපායෙන් මේවදන් (කියන්
26 නේ) "යුවරජරට ගොස් පියනු දැක්ම කොට මෙහි එන්ට අ
දම මාවිසින් යා යුතුය" යි කීය. ඒ තෙමේද එබස් අසමින් ස්ව
27 භාව දන්මෙහි අසමඤ්ඤබුද්ධියෙන් "සියගෙට යනුසඳහා මේ
කියනලදැ" යි සිතන්නේ "තොප සිතනලද අර්ථයාගේ සංසි
28 ද්ධිය වහාම වේව" යි සිනා පෙරටුකොට සුභවදන් කීය. ඒ රජ
29 හු වෙත සිටි බමුණු උතුමෙක්ද එකෙණෙහිම මගලසන්නි
30 ශ්‍රිත හිතවූ අර්ථලාභයපිණිසද ක්ෂේමයපිණිසද විජයපිණි
සද සතුරුපක්ෂවිනාසපිණිසද බොහෝ උපචිති දක්නවද
31 සුදුසුවූ වදන් එසේම කීය. කුමරතෙමේද එබස් අසා යන්නේ
"මට හොබනා නැකැත් මේමය" යි සියගෙට පැමිනියේය.
32 පසුව උදාරවූ පුණ්‍යහා ප්‍රඥාඇති ඒ රාජන්‍යතෙමේ නො
33 යෙක් පරිද්දෙන් ශුභනිමිති දකිමින් අසමින් ගෙන් නික්මිනි.
කෙළියෙන් රමකලනම් ඇතු අනුව දුවන්නාසේ විථියෙන්
34 විථියට යමින් රෑ නුවරින් නික්මිනි. සඳපහනේ යෙමින් රුක්
මුලෙක හුන් විඩාසන්සිඳුවන මිනිසෙකු දැක ඒකුමරතෙමේ
35 "පින්වත තෝ කවරෙක් වෙහිදැ" යි පිළිවිස, උහු මගියෙකු
බව දන්නේ වේගයෙන් උස්හඬින් (මේ) බස කීය. "කිමෙ
36 ක්ද තෝ මා දන්නෙහිද" හෙතෙමේද හයින් තුෂ්ණීම්භූතව
සිටියේය. "පරාක්‍රමබාහුආදිපාදයයි මට කියති තෝ නාභ
37 මක් බියවේව" යි වහා උහු සනසා ආදරද කොට "එඹල තා
මෙහි දක්නා මට මහත්ලාභයෙක් විය තෝ දැන්ම වහා කඳ
38 යුරට ගොස් "පැරකුම්බාකුමර සියරටට යන්නේ මාවිසින්
දක්නා ලද්දේය යනු කිය" යි කියා වහා "(උහු)යැවීය. මා ප
39 සුව ලුහුබඳනා සේනාවෙක් කිමෙක ඇද්දෙ නැද්දෙහෝ" යි
ඉදිවඩමන්වැව පසෙක සිට බලා පසුව එලවන බල සෙන
40 ගෙක් නොදක්නා කුමරතෙමේ එයින් කනපද්දෘ උදනම්තැ

41 නව යන්ට නික්මින. රළුමහත්නියඇති බියකරු කන්සිරිහි
යන හඬින් බිහිසුනු වැලහින්නක් පැටියන් සහිතවූවා මහවෙ
42 හෙහිදී කුමරු හමුවට පැන්නාය. ඇය පලගඅගින් පෙළා
කඩුසිළින් විද දෙකඩකොට කපා පිටිපසින් (පැහැර) පැටි
43 යන් දුර දමා හසින් වල්වන් එක්වයන්නවුන් කැඳවාගෙණ
44 බියපසුකළ කුමරතෙමේ මත්තෙහි ගල්කඩ ඉක්මවමින් අති
ශයින් ගොරහඬින් හඬන ඉතා බිහිසුනු ඌරෙකුදු රලහා
45 ඉදිරියට එන්නහු එසේම මැරුයේය. ඉනුත් මත්තෙහි යමින්
දෙමළියගලනම් තැන්හිදී ඕපනාමිකනම් ගම්හි වැස්සන්
46 අළුයම්හි කිසිකටයුත්තකින් කඩුගත්අතින් යුක්තව යන්න
වුන් දැක "(මට) පෙරතුව මොව්හු මෙහි ආහ" යි සිතා ලා
47 හෙලා කඩුවෙන් පලගපිටු පැහැර "දුෂ්ඨයන් මරන්නෙ
මැ" යි රළුතෙපුල් කියමින් ඒ කුමරතෙමේ මුවන්මැදට කෙ
48 සරෙකු සෙයින් උන්මැදට පැන්නේය. දැඩියේ බියපත්වූ
ඔව්හු හෙලනලද අවිඇතිව මහවලට පැලහ.
49 ඉක්බිති රජකුමර එහි හාත්පස බලමින් ඒ මිනිසුන්ගෙන්
ප්‍රපාතයෙක වැටුනු එකෙක් දැක ප්‍රපාතයෙන් ගොඩනගා
50 ගෙණ "තෙපි කවුරුදැ" යි පිළිවිස උහුගේ කටින් තත්වූ ප
රිද්දෙන් දන්නාලද ස්වරූපඇති කරුණානුගත ඒ කුමරතෙ
51 ම "තෙපි කොසිනුත් බියනොව සිය අවි ගණිව්ය" යි කියා
ස්වකීය ගමන් උන්කෙරෙහි ඉදුරා ප්‍රකාශ කොට මගලබග
52 මුව සමීපයෙහි එක්ව වැඩුනු භටයන් දැක "කී සලකුණු පරි
ද්දෙන් ආවනැ" යි සතුටුවිය. මූන්විසින් අනුගතවනලද
53 හේතෙමේ දනව්වානම් තැනට ගොස් එහි පෙරසිටි පිරිසහා
54 කැටිවිය. මුවදඩආදී නොයෙක් ක්‍රීඩාවිනොදයෙහි තත්පරවූ
ඒ හිමිතෙමේ ඒ මිනිසුන් සමග තිහිප දවසක් එහි විසීය.
55 එකල කිත්සිරිමේ රජතෙමේ තමාපාලනය කරණ මිනි
56 සුන්විසින් පියදූ පතෙකින් පුතු එහි ආ පවත් දැන "කලක්
සතුරන්වෙත විසුයේ යම්කිසිත් උපද්‍රවයකට නොපැමිනා ස
57 තුරන් අතින් දුකසේ මිදිනැ" යි සතුටුවූයේ "කොල මාගේ
සොක දුරලන පුත්හු මාගේ මරණින් පෙරතුව වහා මෙහි
58 ගෙණවුත් දක්වව" යි පස් මෙහෙකරුවගීයාගේ ප්‍රධාන
යයි සම්මත මිනිසුන් පඬුරුසහිතවූවන් සියතින්ලියූ ලියමන්
59 දී යැවීය. කුමරතෙමේත් ගියවුන්ද එලවූ පඬුරුද දැක පියහු
60 දක්නා කැමැත්තේ එතනින් විල්ගමට ගියේය. එකල ඒ
කිත්සිරිමේ රජතෙමේ පුතු එහි සිටියා අසා "කල්ගෙවීම
61 නොකොට ඒතෙමේ ගෙණ අයසුත්තේය" යි කුඩාරාදිසහා
62 නායකයන්ද පස්පිරිවෙන් මුල්වැසි තෙරහුද යැවිය. ඒ

තෙමේ ඔවුන්ගෙන් තොරතුරුහා පියරජු පවත් අසා “ මනා
63 නැකතෙක නික්මෙන්නෙමි තොපත් මා සමග යායුතුය ” යි
කියා රම්‍යවූ ගගුල්හැලිහෙන්නාවූ තැන්ආදියෙහි නො
යෙක් පරිද්දෙන් ක්‍රිඩායෙන් එහිම වෙසෙමින් කිහිප දව
සක් ගෙවීය.

64 සභාපතියා ආදි ඇමතියන් දක්නට ඒ ඒ අතින් ආ හටයන්
65 දැක කුමරහු අනුව යන්නෝ කුමරුහා එක්වගෙණ රජහු
කෙරෙහි පෙර කළ අපරාධ මෙනෙහි කෙරෙමින් බියහා වෙ
66 ලෙව්බැවින් වසඟකරණ ලද්දෝ “ නොයෙක් තැනින් මෙ
හි බොහෝ හටයෝ රැස්වෙති ඇමත්තන්ගේද මොවුන්
67 ගේද සිත්හි අදහස දතනොහැක්ක රැස්වූ මොව්හු සියල්
ලෝ හාත්පසින් වටලා අප මැදිකොටගෙණ ඒ ඒ තැන සිටි
68 යෝය. මෙසේ උනුන් කථාකෙරෙමින් එකල විමතියට
පැමිනියෝ මෙපවත් රජකුමරහටද දැන්වූහ.

69 “ මේ සියලු අධමයෝ හැමකල්හිම වූපරිදි සර්වප්‍රකාර
යෙන්ම නොසලකා නිර්භයකාරණයෙහි අතිශයින් හයදක්
70 නා සුල්ලහ. සභාපතියා දක්නට මෙහි රැස්වූ ගම්වැසි
සෙන් දක්නාවූ මොව්හු මා ඉදිරියෙහි බැගෑවදන් කියති ” යි
71 ඒ කුමරතෙම කිපියේ ඔවුන්ට මෙබඳු වදන් කීය. එසේද
වුවත් ඔව්හු ක්‍රමයෙන් ඒ ඒ අත පැලඟ. කුමරතෙමේද එ
72 පවත් දැන “ නොයෙක්තැන මාගේ වික්‍රමයද එසේම බො
හෝසේ මාවිසින් කළ ස්වකීය අනාථපරිත්‍රාණයද දක්නා
73 මවූ මේ නීචයන්ගෙන් සහජත හය අපගත නොවෙයි· මො
වුන්ගේ මෙහි සිටීමහෝ පහව යාමහෝ මට කුමක් කරන්නෝ
74 ද මා මෙහි සිටිකල කවරනම් ජනයෙක් කොයිකලකත් කු
මක් සිතන්නේද ” යි එහි වෙසෙමින් මඳකලක් ඉක්මවීය.

75 රතනාවලී රාජිනීතොම පුතු එහි සිටිබැව්ද රජහු වි
සින් යවනලද ඔවුන් කැටිව නාබවද අසා “ පුතු නොඅවුත්
76 මෙසේ කල්ගෙවීම කරණකල රජහු සිත ඉදින් දුකෙක් වී
නම් සුදුසු නොවන්නේය ” යි සිතා “ මමම ගොස් සියපුතු ව
77 හාම රජුවෙත ගෙණවුත් දක්වන්නෙමැ ” යි වහා රුහුණි
78 න් අවුත් සක්නාතලිනම් නුවරට ගොස් සාදරයෙන් රජු දැක
සමග සතුටු විය යුතු කථා නොයෙක් පරිද්දෙන් කොට නිම
79 වා මිහිපල්හු වෙත සිටියා තමා ආ පවත් පවසා ඕතොමෝ
ඒ නුවරින් විල්ගමට ගොස් වැද, පුතුය නායකතෙරහුය ස
80 භානායකය යන මොවුන් සාදරයෙන් දැක, කටයුතුද මොවු
81 න්හා මොනවට මන්ත්‍රණය කොට “ සර්වප්‍රකාරයෙන් බැහැර
ප්‍රපචකරණය අයුක්තිය ” යි ඒ කුමරහු ගෙණ බදලත්ලි

82 සට අවුත් එහි වසන දෙව්සෙනෙව්යා සමග සක්නාතල් නුවර ගොස් පියරජුට දැක්වී.

83 පසුව කිත්සිරිමේ රජතෙමේ පුතු දැක හටගත්ප්‍රෙම ඇත්තේ එකල්හි ප්‍රධාන ඇමතියන් ඉදිරියෙහි මෙසේ කීයේයි·
84 "ඔබලත් මා මෙහි කවුරු සේවාකෙරෙද්ද අනාත්මකෘත්‍යය හෝ කරද්ද" යි යන "මා සිතතුබූ ශොක උල අද උදුරණ
85 ලද්දේය. දැන් තෙපි මටම ලාභයයි නොසිතව් මේතෙමේ තොප සියල්ලන්ගේත් පුණ්‍යඥය නොවේද? මෙතැන්ප
86 ටන් තෙපි සියල්ලෝම කුමරුට අනුව පවතිව්ය" යි කියා ඒ සිය පුතු උන්ට පාවාදින.

87 ඇමතියන් ඒ කුමරහු අණෙහි සාදරයෙන් වැටෙනකල ඒ කිත්සිරිමේනම් රජ කළුරිය කෙළේය. දන්නාලද ශා
88 සත්‍රාගමඇති ධීරවූ ඒ කුමරතෙමේ එකල්හි පියහු මරණින් හටගත් ශොකවේගවසඟයට නොපැමින, මහඇමති ආදී
89 රටවැස්සන් අස්වසා පියහුගේ අගනිකෘත්‍යයත් සානුරූප
90 කොට නිමවා ඒ ඒ දනව්වෙහිද රට සීමායෙහිද තමාවිසින් වඩනලද දැඩිභක්තිඇති ඇමතියන් යොදා පසුව ක්‍ෂත්‍රියධර්මී
91 යෙහි පඩිතවූයේ හොබනා නැකතෙක මහාදිපාද පදවි පටබැඳීම් මහොත්සවයෙහි ලඞ්කාලඞ්කාරභූතවූයේ සව්
92 බරණින් සැදියේ ප්‍රබලවූයේ දක්‍ෂයන්ට අග්‍රව ඇතුනැගී නොයෙක් අලඞ්කාරයෙන් නොයෙක් පරිද්දෙන් සරහන
93 ලද්දවූ බලසමූහයෙන් සඞ්කීර්ණවූ නුවර සූරිඳු සූරපුර සෙයින් ප්‍රදක්‍ෂිණ කෙළේය—එකල මහණ බමුණු
94 ආදීන්ගේ දිළිඳුබැව්නැමති තැව්ලි පරම්පරාව මහත්වූ ධනවෂ්ටාවෙන් ශාන්තියට පැමිනවී. ඒතෙම පසුව ගජබා
95 රජුටත් මාණාභරණ රජුටත් එපවත් කියන්ට සියදූතයන් යැව්ය.

96 ප්‍රවරගුණයෙන් අනෙකසාමන්තයන් සිත්ගත් මොනවට කම්පිතකළ සතුරන්ඇති පැමිනෙනලද තිඹුණු තෙද ඇති ඒ (මහාදිපාද) තෙමේ සකල භුවන කුහරව්‍යාපත සත් කීර්ති වසඟකොටඇත්තේ සොඳුරුවූ නොයෙක් පැවතුම් ඇතිව ඒ නුවර විසූයේය.

මෙතෙකින් හුදීජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස මහාදිපාදමඞ්ගුසවනම් සැටසත්වන අදියර නිමි.

---

# 68 වෙනි පරිච්ඡේදය.

---

1 අතිශයින් උදාරවූ අදහස්ඇති අන්දනව් මොනවට දත්
තාවූ ඒ පැරකුම්බාකුමරතෙමේ රජයෙහි නියුතු ඇමති
2 ජනයාහා සමග මන්ත්‍රණයට පැමින “මාගේ රජබැව්හි
ඵලනම් සියලු සතුරන් නසා ලොකශාසනාභිවෘද්ධිසිද්ධි
3 සම්පාදනියවේ.—ඉතා කුඩාවූද මේ රාජ්‍යය මාගේ ප්‍රඥ
විශෙෂයෙන් සමෘද්ධියට පමුනුවන ලද්දේ අත්‍යර්ථයෙන්
4 නොයෙක් සමෘද්ධියෙන් යම්සේ අන්‍යරාජ්‍යයන්ගේ මහිමය
5 ඉක්ම පවතීද එසේ වහා සපයන්නෙමි” යි ඒ ස්වාමිතෙම සි
තා සමග වැඩුනාවූ සියලු ඇමතියන්ට සුදුසු පරිද්දෙන් තන
6 තුරු දී ඉසුරෙන් සඞ්ග්‍රහකොට සමන්කුළුසෙලපටන් සයුරු
පටුන් දක්වා රාජ්‍යසීමායෙහි නොයෙක් තන්හි සිය සෙන්
7 පිහිටුවා “ හැමට පළමු කොට බෙහෙවින් ධාන්‍ය රැස්කිරීම
කටයුත්තේය ” යි මෙසේද සිතා ඇමතියන්ට මෙය කීයේය.

8 “ බෙහෙවින් මා අයත් රජයෙහි අහස්දියෙන් නිපදනා
9 නොයෙක් ගොයම් බිම් හැර නුසුන්දියයුත් නදින්හා එසේ
ම මහවැව් නිසා පැවති කෙත් ස්වල්පය. බොහෝවූ පර්වත
10 යෙන්ද ඝනවූ වනලැහැබින්ද මහමඩින්ද රාජ්‍යය අතිශ
11 යින් සම්බාධයි. මෙබඳු දෙශයෙහි වැස්සෙන් හටගත්
ජලය මදකුත් ලෝකෝපකාරයෙන් වෙන්ව කිසිකලෙකත්
12 මුහුදට නොයේවා. මැණික්රන්ආදි වස්තූන් හටගන්නා
ආකර බිම් හැර සෙසු තන්හි කෙත් මොනවට පැවැත්ම
13 කටයුතුය. ලෝවැඩ නොකොට සියඅතට පැමිනියක් අනු
භවකොට විසීම මා වැන්නන්ට සර්වප්‍රකාරයෙන්ම යුතු
14 නොවේ. තෙපි සියල්ලෝ වනාහි දුෂ්කරවූද පැමිනි කට
යුත්තෙහිනොපසුබට වීර්‍ය්‍යඇතිව එහි දුෂ්කරභාවය නො
15 සිතා නිරවශෙෂවසයෙන් මාගේ සංවිධානය නොවරදවා
කර්මාන්තය අනුසස්නා පරිද්දෙන් සපයව ” යි (කීයේය)

16 දැදුරුනම් ඉොය බොහෝ කලක් පටන් කොටුබදයයි ප්‍ර
කටවූ නම පමණක් ඉතිරිව නටුවාවූ පෙරකල් රජුන්විසින්
17 බඳනට ඉතා දුෂ්කර බවට පැමිනියාවූ මහහෙය බඳින්ට ම
හත් යසස්ඇත්තාවූ හේතෙමේ නියෝග කෙළේය.

18 ඉක්බිත්තෙන්. ඒ සියලු ඇමතියෝ සර්වප්‍රකාරයෙන් දුෂ්ක
රබවද කළ නමුත් නොතහවුරුබවද නොයෙක් පරිද්දෙන්
ප්‍රකාශකළෝය.

19 පරාක්‍රමබාහුරජතෙමේ ඒ බස් පසුබස්වා (කියන්නේ) "ලෙ
ව්හි උත්සාහවත්වූ දනන්විසින් කුමක් සිදු කළ නොහැක්
20 කේද? රාමතෙම සයුරෙහිද වඳුරු සමූහයන් ලවා මහ
හෙයක් බැන්ද විය, යනමේ කථා තොමෝ අද දක්වාත්
21 ලෝකයෙහි පවත්නේය. ඉදින් මාගේ තෙද වෙසෙස ලක්
දිව එකසතින් ලකුණු කොට ලෙව් සසුන් වඩනට හේතු වත්
22 තේනම් ආරම්භමාත්‍රයකින්ම නිමවීම පෙණෙන්නේය" යි
කියා මහොත්සාහී රජතෙමේ ඔවුන්ගේ උත්සාහය මනා
කොට වැඩවීය.

23 හෙය මුවදොරපටන් රත්කරව්වානම් රට දක්වා හෙය
බැම්මෙන් පළමුකොට මහනුවනැති ස්වාමිතෙමේ නො
24 යෙක් පුරුෂප්‍රමාණ ගැඹුරුවූ අතිශයින් පතළාවූ තහවුරුවූ
25 මහමොව්ඇලක් පැවැත්වී. රටවැසිවූ ගල්වඩු සමූහයද ලො
හොකරුවන්ද බොහෝවූ කඹුරන්ද රන්කරුවන්ද රැස් කර
26 වා ඔවුන් ගල්කොටන කම්හි යුක්තකොට ඔවුන්ලවා දනග
තනොහැකි ශෛලසන්ධිඇත්තාවූ අතිශයින් තිරවූ එකඝන
27 වූ ගල්තලක් සමවූ මනාකොට නිමවනලද සුණුවම් ඇත්
28 තාවූ හෙයමහායසස්ඇති රජතෙමේ බැඳවීය. සැදැහැත්
තේ ඒ හෙය මතුයෙහි බෝතුරක්ද පිළිමගෙයක්ද එසේම
29 දාගැබක්ද පිහිටවී, සියලු ජලප්‍රවාහයතෙමේ ඒ මොව්
ඇලින් යම්සේ මුහුදට වදිද පණ්ඩිතතෙමේ එසේ කෙළේය.
30 ඒ ඇලදෙපස මහවනය කපපවා වී ගැල් නොයෙක් දහස්
ගණන් වැපිරෙණ කෙත් කරවා නොකඩවූ වියෙන් පිරුණු
31 කොටුවලින් ගැවසුනු බැවින් කොටුබදය යනු අර්ථානුරූපවූ
ව්‍යවහාරයට පැමිනවූයේය.

32 ඉක්බිති සක්වඩමන කිඹුල්වාණය යනමේ ගංගාවල සම්
33 භෙදස්ථානයෙහි රජතෙමේ යටකියනලද පරිද්දෙන් ඌරු
දෙළනම්වූ තැන බඳවා එහිද මොව්ඇලක් පැවැත්වී. ඒ ඌ
34 රුදෙළ මොව්ඇලින් ජලය මාගල්වැව හෙලා එහිද සුන්
බුන්තැන් ඉතිරි නොකොට බඳවා දිය බැහැරයන මාර්ගයන්
35 ගේ බැසයනජලය පෙරටුකොට පූර්වප්‍රමාණයෙන් වැඩිවූ දිය
බැස වැටීමද කරවා එතැන් පටන් ඌරුදෙළදක්වා කෙත්
36 කරවා එහිද වී රැස්කෙළේය. හේතෙමේ දැදුරු ඔය මැද
37 දොරදත්තිකනම් තැන දියබස්නාවක්ද මහඇලක්ද කර
38 වා එතැන්පටන් ඌරුදෙළදක්වාද කෙත් කරවා එසේ එහිද
ධාන්‍යරාශිය රැස්කෙළේයි.

39 පෙර ඉතා කුඩාවූ පඬුවැව වඩනලද උස්බැව්හා අයම්විත
රැති තහවුරු මියර ඇතිකොට සොරොව්වක් සහිත ඉතා

40 උස්වූ මහදිය (කඳ) වදනා මගක්ද කරවා පැරකුම් මුහුදය
41 යන ව්‍යවහාරයද තැබී. ඒ මැදිවූ දූවෙහි ගලමුදුනෙහි කෙලෙස්කුළු සිරි උසුලන සැයක්ද කරවී. ඒමැද ඉතා සො
42 ඳුරුවූ ලෝවැස්සන්ගේ සතුටු සමූහයට මැදුරක් වැනිවූ තුන්මහල් රජමැදුරක් කරවී.

43 මාගලවැව, සිටුවැව, එසේම සතුන්නතුවැව, තඹවැව, එසේම අඹවැව, වසාවැව, ගිරිබාවැව, පටාලවැව, මණ්ඩි
44 ක්කුලම, මොනරවැව, සාදියගම්වැව, තිලගුල්වැව, මලා වැල්වැව, එසේම කළුවැව, කිතුකඩවැව, කිණ්ඩිරිගල්
45 වැව, බුද්ගමුදෙළ, හුරුගමුවැව, මහකිරලවැව, ගිරියා
46 වැව, රක්නාවැව, අඹාලවැව, කටුන්නරුවැව, ජල්ලිබා
47 වැව, උතුරලවැව, එසේම සියඹලාගම්වැව, දලච්චිගම් වැව, කිරවැව, නළන්නරුවැව, කරච්චවිලත්වැව, එසේම
48 දිඹුල්ගම්වැව, මූනරුවැව, කසාල්වැව, එසේම කලලහල් වැව, මුල්වාරිකවැව, එසේම ගිරිසිගමුනම්වැව, පොලො
49 න්නරුවැව, එසේම විසිරිතලවැව, යන මෙකීවාවූද අති
50 කුදු නාටුවාවූ බොහෝ හෙප් දෙළහා වැව් දයාබන්සිත්ඇත්
51 තාවූ හේතෙමේ බැඳවී. පස්යොදුන් රට මහමඩහා කුඩා විල් කපපවා එයින් ජලය ගංගාවල හෙලා කෙත් පැවැත්විය.
52 වී රුසඳ සමහරණය කෙළේය. එහි වන බිම්හා අනිකුදු ඉතා
53 බෙහෝ තන්හි සැමවනබිම් වෙන් කොට ගම් ප්‍රධානයන් ගෙණ කෙත්කිරීමෙහි රටවැස්සන් යොදා රජයෙහි පෙර
54 උපදනා අයෙන් වැඩිවූ අය යම්සේ අළුත් කෙතින්ම රැස්
55 කරණුලැබේද. එසේ කරවා ඒ රටවැස්සෝ දුර්භික්ෂභය යම්සේ කිසිකලෙකත් නොහඳුනද්ද නුවනැත්තාවූ රජ
56 තෙම එසේ කෙළේයි. නිතිදත් (ඒ රජතෙමේ) "මාගේ රජ යෙහි යම්කිසි තැනෙක්හි පැමිනි උපකාර රහිතවූ කුඩා
57 ගෙපල් (පමණබිම) කුත් නොතිබේව" යි කියා ඵලපිණ්ස ප්‍රසිඩවූද එසේම මල්පිණ්ස ප්‍රසිඩවූද නොයෙක් වැල්රුක්
58 වෙසෙසින් ගනව ගැව්සුනාවූ බොහෝවූ නොයෙක් අනුභව යට උඳුරවූ නානාවිධ උයනින් සොඳුරුවූ සිත්අලවන්නාවූ ආරාමයන් ඒ ඒ තන්හි හේතෙමේ පිහිටවූයේය.

59 මෙසේ සමෘද්ධියට ගියාවූ කුඩාවූද ස්වකීය රාජ්‍යය ස්වකීයවූ ප්‍රඥාවිශෙෂයෙන් අන්‍යවූ මහත්රාජ්‍යයක් නමුත් යම්සේ ඉක්මවා පවතීද විධානයෙහි දක්ෂවූ රජතෙමේ එපරිද්දෙන් කෙළේය.

මෙතෙකින් සුදිජනයාප්‍රසාදසංවෙගපිණ්ස කළ මහවස සරජ්ජසම්ඩ්කරණ නම්වූ අටසැටවෙනි අදියර නිමි

# 69 වෙනි පරිච්ඡේදය.

---

1 ඒකල්හි පැරකුම්බාරජතෙම මෙසේ සියරජය නිරවුල්
2 කොට තබා කටයුතු මෙසේ සිතී. “යහපත් නිතියට ප්‍රති
පක්‍ෂවූ මනා නුවන නැත්තාවූ පෙර රජහු බොහෝකලක්
3 කැමතිසේ ලෝසසුන් නැසූහ. භික්‍ෂූහු බුද්ධශාසනය අධර්‍ම
අවිනය කොට පිළිවෙත් වරදවමින් රිසිසේ විසූහ. මෙක
4 ල්හි මම වහාම ලඞ්කාව එකසත් කොට සස්නද ලොවද
සෘජුකොට තබන්නෙම්නම් යෙහෙකි” මෙසේ සිතා සාම
5 න්තයන්හා මඩලිකයන්ට සේනාවද යුදපිණිස උපකරණද
6 සපයනුපිණිස උපදෙස් දෙමින් ක්‍ෂත්‍රියතෙමේ පළමුකොට
රත්කුරවකනම් රට දෙමළසෙනගට අධිපතිවූ මලයරජ
7 නැමැත්තා කැඳවා නොයෙක් බල දහසුන්ද ඔවුනට සන්
නාහයන්හා අවිද සපයා එහි වසනපිණිස යැවී. තඹරට
8 ද, ගිරිබාරටද, මොනරවැවද, මිපල්නම් රටද, පිලවිටනම්
9 රටද, බුද්ගමුනම්රටද, අඹවනනම්රටද, බෝගම්බරනම්
රටද, කටුපේටකනම්රටද, පසල්දනව් රක්නා ඇමතියන්
10 වෙන් වෙන් වසයෙන් කැඳවා නොයෙක් දහස්ගණන් යෝ
ධයන්හා කොටුද සන්නාහයන්ද කඩු තෝමර හෙලල
11 ආදී නොයෙක් අවිද සපයා ඒ ඒ තන්හිම වසන පිණිස යැවී.
12 ඉක්බිත්තෙන් ලක්මහලෑනනම්වූද, සිඑනානම්වූද, එසේ
13 ම ජයමහලෑනනම්වූද, සිටුනානම්වූද, මහිඳනම්වූද, ලම්බ
කණ්ණක්‍ෂත්‍රියවංශයෙන් පැවත ආ මේ පස්දෙන එකල්හි
14 මහයසසින් යුක්තව මෝරියරට වෙසෙති. ඔවුන්ලවා හට
යන් දහස්ගණන් වෙන්වෙන්වසයෙන් කරවා යුදඋපකර
ණද කර්වන්ට නියෝගකෙළේයි.

15 රජතෙමේ තමන් අබතුරෙහිද මඩලිසුරුවරයන් දොළ
සක් කොට එක එක නමකට යුදයෙහි සූරයන් දෙදහස දෙද
16 හස දුන්නේය——ජයගන්නාසුලුවූ අසූසතරදෙනෙක් සා
මන්තයන් කොට ඔවුන්ට වෙන්වසයෙන් දහස බැගින් සේ
17 නාව දින. මහත් සිරුරුසා මහබලැතියන් නොයෙක් ද
හස් ගණන් මුගුරු ගන්නා යෝධයන් කොට යුධොපකරණ
18 ද දින. අන්‍යදෙශවාසීවූ කෙරළාදී කෘතහස්ත යෝධයන්
සම්බන්ධවූ බොහෝ දහස්ගණන්ද සැදී.

19 චන්ද්‍රාලෝකධනුර්ධරයන් එක් දහසක් රැඳෙහි සපත්කර
20 වා සම්සැට්ට ආදිය දීන. නොයෙක් දහස්ගණන් වැද්දත්
කර්මදක්ෂයන් කරවා ඔවුන්ට සුදුසුවූ සිරි කළුරෙදිආදිය දීන.
21 එකල්හි ඒ රජතෙමේ නොයෙක් කම් කරුවන්ගෙන් එක
එක දහස ස්වකීය ස්වකීය කම්කරණට යෙදී. "ඇත්අස්කඩු
22 ශිල්පයන්හිද අන්‍යදෙශභාෂාහිද නැටුම්ගීයෙහිද දක්ෂව රාජ
23 කාර්‍ය්‍යයෙහි නුවනැතිව වැඩෙත්ව" යි නොයෙක් කුලවතුන්
ගේ පුත් සොහොයුරු මුණුබුරන් සියමැදුරෙහි වැඩූයේය.
24 සිරිගනනාවූද කපුරුවඩනනාවූද කුඩාසේවකයෝය එසේම
සිංහල ගන්ධර්වීය ලගහැසිරෙන්නෝය යන මේ ආදී ප්‍රභෙදව
25 ගීයන්ට අයත් වෙන් වෙන්වූ දහස්ගණන් මිනිසුන් හේතෙ
26 මේ රජගෙයිම වැඩී. තරුණවූ සැට්ටලන්නෝය නාපිතය
යනාදීන්ට අවිදී ස්වකීය ස්වකීය දෙටුවන් සෙවිනට අනු
27 දත්තේය. පියරජහුගේ භාණ්ඩාගාරාධිකාරීන්ගෙන් ධන
ප්‍රමාණ දැන "මාවිසින් මෙපමණ ධනයෙන් මේ ලඞ්කාතො
28 මෝ එකසත් කරන්ට නොහැක්කිය" යි නිශ්චය කොට ජන
සමූහයා නොපෙළා මෙසේ ධනය රැස්කෙළේසී, මිහිපල්තෙ
29 මේ වස්තුවද සේනාවද වෙන්වසයෙන් දෙකොටස් කොට
මුල්වූ ඇමතිදෙදෙනා කෙරෙහි තැබී. රජතෙමේ තමන්
30 ජයගත් සියලු රටද එසේම සමයේ බෙදූ පිළිවෙළින් පැවැත
ආ සමූහාධිපති ඇමතිදෙදෙනෙක්කෙරෙහි තැබී. මුහුදුතෙර
31 රටින්ද රුවන්ආකර රටින්ද මහමලයරටින්ද ඉන් අවශෙෂ
32 රටින්දැයි ඒ මිහිපල්තෙමේ සාරතැන් වෙන්කොට අනන
රඟධුරයයි නම් කොට ඇමතියෙක් කෙරෙහි (අධිපතිබැව්)
33 තැබී. හේතෙමේ බොහෝ රුවන් නැව්වලින්යවා වෙළ
ඳම් කරවා ධනරාශියද වැඩී. මුල් ඇමතියන් දෙදෙනා කෙ
34 රෙහි යුදඋපකරණද නොයෙක් දහස් යෝධභටයන්ද
ඇතිකරවී.

35 අනනරඟනම් ප්‍රධානස්ථානයෙහිද විජිත දෙකට අයත්වූ
ප්‍රධාන ස්ථාන දෙක්හිද යන (ධුරත්‍රයෙහි) ඇමතියන් තුන්දෙ
36 නා කෙරෙහි ඉතා බොහෝවූ යෝබළන් ඇතිකරවී. භටයන්
ගේ සුරුබැව්පිණිස විපිසුඬ කරවා ඉතා සූරයන් වෙන් කොට
37 උතුම් සත්කාර කෙළේසී. දයාවෙහි ඇළුනේ යුද කරණට
රො:පොහොසතුන් "ඔව්හු ගොවිකම් ආදිය කොට සුවසේ
ජීවත් වෙත්ව" යි හලේසී.

38 මෙසේ විදිදත් තැනැත්තේ සනනාහ සහ ආයුධයන්ද සූ
රවූ භටයන්ද සපයා ජනසමූහයා නොපෙළා සුවසේ නානා
විධ ධනසමූහයද රැස්කෙළේසී.

මෙතෙකින් හුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස බලධනසඟගනම්වූ එකුන්සැත්තෑවෙනි අදියර නිමි.

---

# 70 වෙනි පරිච්ඡේදය.

---

1 ඉක්බිත්තෙන් හේතෙමේ තමන්ගේ මහත් සේනාවද 2 ධනධාන්‍යාදි සංඝාතනියද සියලු යුධොපකරණද බලා සිං හලවීපය තබා දඹදිව උවත් ගත්නට දුෂ්කරනොවෙයි 3 සිතා රාජ්‍යසාධනයට පටන්ගත්තේයි. නොයෙක් පර්‍වත දුර්‍ග ඇතිබැවින්ද චණ්ඩසත්වහයින්ද දුකසේ බැසසුතුවූ 4 අන්‍ය මනුෂ්‍යයන්ගේ සචාර රහිතවූ එකපදික මාර්‍ගයෙන් යා යුතුවූ අතිශයින් බියකරුවූ කිඹුලුන්ඇති ගැඹුරුජලයෙන් 5 ගැවසුනාවූ මහාමලයරට යටිකඩ දුඹර ගජබානිරිදුගේ 6 රක්ඛනම් දණ්ඩනායක ඇමතියා උපලාලනයෙන් කැඳවා උතුම් සඟ්‍රහකොට මලය දෙසය ගෙණදෙන්ට උහුට නි යෝග කෙළේයි.

7 එකල්හි ඒ දෙසවාසීහු එපවත් අසා "දණ්ඩනාථයා ආකල් හි උහු මරන්නෙමුය" යි මන්ත්‍රණය කළෝය. දණ්ඩනාථ 8 තෙමේද ඒ අසා වහා අවුත් යුදකොට ඒ සතුරන් පලවා දු ඹර රට ගත්තේය. ඉක්බිත්තෙන් හේතෙමේ යටිකඩෙහි යුද 9 පවත්වා සතුරන් පලවා එහි සාමන්තයාගේ හිස ගත්තේය. 10 තල්කෙතනම් ගමෙහි දෙවරක් යුදකොට නාපාණනම් ග මෙහිද එසේම යුද දෙකක් කෙළේයි, රන්දෙණිනම් ගමෙ 11 හිද රඹුක්වැල්ලනම්ගමෙහිද දෙමටපාතෙලෙහිද එක 12 එක යුදය කොට ඒ ඒ තැන නිවාසීවූ සියලු සතුරන් නසා, මහාබල ඇත්තේ යටිකඩනම් රට ගත්තේය, එහි සේ 13 නාව සමග බාල සොහොයුරා සිටුවා කටයුතු පිළිවිස්නා පි ණිස හේතෙමේ රජුකරා ගියේයි. එකල්හි ඒ සහොදරයා 14 ප්‍රධාන කොට ඇත්තාවූ යෝධහටයෝ නික්ම සතුරන්හා යුද කොට නිල්ගලනම් රට ගත්හු. දණ්ඩනාථතෙමේ නැවත 15 අවුත් සයකෙත්නම් තැනද රත්බෙදුම්නම් තැනද එසේම 16 දුනුවිලද එක එක බැගින් යුදකොට සතුරන්ද මරා ගනනා ලද ඒ නිල්ගලනම් රට අතිශයින් තහවුරු කෙළේයි.

17 ඉක්බිත්තෙන් හේතෙමේ බලවත්වූ ඔතතුරමල්ලකයා ස
18 මගද දුනුමඬුලුනාවන්සමගද දෙවරක් යුද කොට හිණිකෙ
ත්නම් රට ගෙණ පහවූ සතුරු බිය ඇතිකොට ඔතතුරමල්
19 ලකාදීන් තමා වසඟ කෙළේයි. එකල්හි රජතෙමේ රක්ඛ
නම් දණ්ඩනායකයන් කැඳවා කෙසධාතුනම් පදවියද මහ
20 සම්පත්ද දී රජරට ගන්නට මැදවගට යැවී. හේතෙමේද
21 නිල්ගිරට ගොස් සේනා සන්නාහකොට එතැනින් මහසෙ
නඟ ඇත්තේ වැවළනම් පියසෙහිද එසේම මැදවගද යුද
22 කොට ජයලැබීය. ගජබානම් රජ එපවත් අසා උහුගා යුද ක
23 රණට මහසෙන් යැවීය. කෙසධාතුනම් ඇමතිතෙමේ ඒ
දැන ශක්තිමත්වූ සේනා වාහන ඇත්තේ ඒ සතුරු සෙන්
බිඳ මැදවග (නම්රට) ගත්තේයි.

24 ලොකජිතාණ නැමැත්තේද රක්ඛලඞ්කාධිනායකනම්
ඇමතිතෙමේද සෙනා සන්නාහ කොටගෙණ සිංහවික්‍රම ඇ
25 ත්තාවූ ඔව්හු ගොස් භූතිතිලඞ්කාධිනායකනම් තැනැත්
තා හාසමග යුද කොට උහු නසා රෙරුපල්ලිනම්රට සව
26 කීය හැසිනප්‍රාපන කළෝයි. රජතෙමේ කොසකවගෙහි ස
මත්මල් නමැත්තා ප්‍රියවචනයෙන් තමන් යටහත් කොට
27 මහඉසුරු දී එකල්හි යුද උවරණද මහත්වූ සේනාවද යවා
28 කොස්වග ගන්ට යෙදී. සමණමල්ලකනම් තැනැත්තේ
ද ඔතතුරමල්ලකආදීහුද සතුරු සේනාවහා යුදකොට යු
29 දෙහි බොහෝදෙන නැසූහ. හිස්දුන්බෝනම් ස්ථානයෙහි
මහ යුද කොට මහබලැත්තෝ ඒ කොස්වගනම් ස්ථා
30 නය ගත්හ. මෙසේ ඒ රටවැස්සන්ගෙන් අවුල් සහිතවූ
ඒ මලය රට මොනවට නිරවුල් කොට සියපුරෙහි වසන්නා
31 වූ ඒ රජතෙමේ උයන්කෙළි දියකෙළියෙන්ද නෘත්‍යගීතාදී
යෙන්ද දවස්යවමින් රාජධර්මය අනුව පවත්නේ, විරූඪ
32 නරේන්ද්‍රයන් වලකනුපිණිසද උත්සාහපිණිසද සොරුන්වල
කනු පිණිසද එකල්හි මුවදඩ යන්නේය.

33 ඉක්බිත්තෙන් රජතෙමේ එක්දිනෙක ඇමතිපිරිවර ජන
යා සහිතව මෙහෙසිය සමග මුවදඩ පිණිස යන්නේ, මුවන්
34 පිරිසි ලකුණු ඇත්තාවූ එක් මහවනයක් දැක ඒ ශ්‍රෙෂ්ඨතෙ
මේ මෙහෙසිය එක් අවකාසස්ථානයෙක්හි හිඳුවා, තෙබිගත්
35 අත්ඇති වැද්දන්ලවාද මුවදැලින්ද ඒ වනය අවුරවා ඒ ඒ
තන්හි ඝොෂා කරවී. එහි ඇත්පොව්වෙක් පමණවූ ගෝ
36 ණෙක්තෙමේ ඒ භයානක ඝොෂාව අසා වනලැහැබින් පි
37 ටත්ව බියෙන් තැතිගත්තේ ඔබ මොබ බලමින් දුවන්නේ
38 පර්වත දුර්ගයෙන් වැටෙමින් ගිරිකඳුරැලි පනිමින් වෘක්ෂ

ශාඛා බිඳිමින් දැල් වැල් අදිමින් වනලැහැබ් සුණුකරමින් එළූ
39 දැල පලාගෙණ හමු හමුවූ දනන් බිය ගන්වා පන්නමින් වා
40 තයටබඳු යුහුගමන් වෙග ඇත්තේ මෙහෙසිය අභිමුඛයට
දිවීය. දුවන්නාවූ උහු දැක සියලූ ජනයෝ බියෙන් මිරිකු
41 නෝ මෙහෙසියහා මිහිපල්හු හැර ඒ ඒ අත පලා ගියෝය.
බිහිසුනු පැරකුම් ඇති ඒ රජතෙමේ ආවාවූ භයානකවූ ගො
42 කණ් මෘගයා (දැක) උහු ඉදිරියටම දිව තෙබ දමා හැන්
නේය. පහර ලත් උහුවිසින් අන්නට හිස නැමූකල්හි
43 අංදෙක ගිළිහී රජහු පාමුල හින. ළද පහරහෙතුවින්
44 හඬනා මෘගයාගේ හඬ අසා නැවතී ඒ ඒ දෙසින් රැස්ව
ඇමතියෝද වැද්දෝද සැට්ටලනා ඇමතියන්හා කරනැවැම්
45 ආදීහුද අංදෙකහා සිංහවික්‍රම ඇත්තාවූ රජහු දැක හටගත්
තාවූ සම්භ්‍රමඇතිව වෙසෙසින් තුටුපහටුවූවෝ ඒ වනය
46 ස්තුතිඝොෂාවෙන් එකකොලාහල කළෝය. රජහුගේ වික්‍රම
විශෙෂයද මහපිනැතිබවද සූරබැව්හා වීරබවද එකල්හි
47 බෙහෙවින් වර්ණනාකොට ඔව්හු අංසුවලගෙණ රජහු පිරි
48 වරා දෙව්තුවරක්සේ සදනලද්දාවූ පූරයට ගොස් විස්මය එළ
49 වන්නාවූ ඒ ප්‍රවෘත්තිය මහාමාත්‍යයන්ට දන්වා ඒ අංසුවල
සියල්ලන්ට දැක්වූහ. රැස්වූ මහ ඇමතියෝ ඒ අද්භූතය අසා
50 විස්මපත් සිත්ඇත්තෝ මෙසේ ආශ්චර්ය්‍ය දැන්වූහ. "අහෝ
මහානුභාව ඇත්තාවූ මෙතෙමේ ඉදින් ජම්බුවීපයෙහි උපන්
51 නේනම් ඒකාන්තයෙන්ම සක්විතිරජ වන්නේය" නොඉක්
මවියහැකි විකුම්ඇති ඒ ධීරයා මේ ආදී ස්තුතියුක්තවචන
52 යෙන් නැවත නැවත වර්ණනා කොට ඉක්බිති ඒ අංසුවල
අකුරු ලියවා භාණ්ඩාගාරයෙහි තැබ්බවූහ. එය අදදක්වා
පවතී.

53 එකල්හි "ගජබාම්හිපල්තෙමේ දෙශාන්තරයෙන් මිසදිටු
54 ගත් රජකුමරුවන් ගෙන්වා රජරට සතුරන් සහිතකෙ
55 ළේය" සි රජතෙමේ අසා "මාවැනි පැණපින්ඉදුවිකුම් වෙ
සෙස් ඇත්තෙකු විද්‍යමානකල්හි මෙසේ කෙළේනොවේදැයි
අතිශයින් කලකිරුණු සිත් ඇත්තේ රජරටත් ගන්නාපිණිස
56 දණ්ඩනායකයන් යෙදී. යුදපිණිස උපදෙස් දෙන්නාවූ
කොවලලශාස්ත්‍ර යුද්ධාර්ණවාදිය මනාකොට බලා ස්වකීයබුද්ධි
57 යෙන්ද කල්පනාකොට දෙශකාලානුරූප පරිද්දෙන් යුද්ධවිධි
යෙහි දක්ෂවූයේ යුද්ධොපාය ලියා සාමන්තයන්ට දෙවා, "මේ
58 උපදෙශයෙන් රෙඛාමාත්‍රයකුදුපැන තිසියම් කර්මයක් කරම්
හයි නොසිතව" යි නියෝග කෙළේයි. ඒ සියල්ලෝම
59 රජහුගේ බස හිසින් පිළිගෙණ මහබල ඇත්තෝ යුදපවත්

60 වන්නට ආරම්භකළෝය. ගජබාරජහුගේ සමෘද්ධවූ වාහන
ඇත්තාවූ යුද්ධයෙහි දක්‍ෂවූ කොම්බානම් ජනග්‍රාහකප්‍රධාන
61 යෙක් වී. ඒ තෙමේ මලලවාළානනම් ගමෙහි ඉතා තිර
බලකොටුවක් කොට සතුරන් වලක්වනපිණිස එහි බො
හෝකලක් විසී.

62 වැලිකෙත් නම් බලකොටුවෙහි සිටියාවූ මලයරායරනම්
ඇමතිතෙමේ යුද කොට උහු බැහැර කෙළේ. උහුගේ ඒ
63 දුර්ගයද ගත්තේය. ඒ වීරතෙමේ එසින් නික්ම මහසෙන්
විසින් පෙරටුකරණලද්දේ නැවින් දියපිට මුතුආකරය වෙත
64 ගොස් බලඇත්තේ එහිසිටි දණ්ඩනාථයා සමග දියමැද මහ
යුද පැවැත්වී. සතුරාගේ බල බිඳුනේය. එකල්හි එහි දරු
65 ණුවූ දෙවෙනි යුද්ධයක්ද පවත්වා නොයෙක් දහස් ජනයන්
66 යමයා කරා යැවී. නම්බානම් කෙසධාතුනායකයා ආදී සේ
67 නාද මල්වැලිනම් තන්හි විසූ පසමිතුරන් නැසූහ. මොන
රවැව නිලගල්ලකනම් සාමන්තතෙමේද කටියාගමට අවුත්
බොහෝ සතුරන් මැරීය.

68 ගජබාරජහුගේම කළාවැවනම් ගමෙහි ගොකණ්කනාග
රගිරිදණ්ඩනාථයයි ප්‍රසිද්ධවූ සූරවූ උදාරගුණයෙන් යුක්තවූ
69 රථ බලවාහන සහිතවූ යුද්ධයෙහි දක්‍ෂවූ සියහිමියාහට පක්‍ෂ
70 පාතවූ මන්ත්‍රියෙක් ඇති. පැරකුම් රජහුගේ රක්ඛදිවාන
නම් අමාත්‍යතෙමේ ගොණගමුනම් ස්ථානයේදී යුදකොට
71 උහු පැරදවිය. පැරද බෙදප්‍රාපතවූ ගොකන්ඇමතිතෙමේ
නැවත ගොස් සේනා සන්නාහකොට පිලවිට්නම් දුර්ගයෙහිද
72 එසේම සාලලකනම් දුර්ගයෙහිද තටවැව්නම් දුර්ගයෙහිද දඹ
කොලෙහිද විදුරවැව්හිද නදිවැව්හිද පල්ලිකාවැව්නම්
73 තන්හිද එසේම කලලහල්ලිකයෙහිද යන සැමතන්හිම
වෙන්වසයෙන් යුදකොට පරාජයට පැමිනියේ "පෙර රජහු
74 සමගද යුද කොට පැමිනි ජයඇති මාගේ ඒ සේනාතොමෝ
75 දැන් විගුණවද පැරකුම්බා රජහුගේ රාජ්‍යසීමායෙහි සාම
න්තයන්දෙතුන්දෙනෙකුහා වෙන් වෙන් වසයෙන් යුද
කොට පරාජයට පැමිනියාය. සේනානායකයෝද මළහ.
76 දැන් යුදකරණට නොහැකියයි සිතා සියලු පවත් ගජබාරජ
77 හට කියා යැවී. ඒ ගජබාමිහිපල්තෙමේ ඒ සියල්ල අසා
ඇමතියන්හා මන්ත්‍රණය කරන්නේ මේ වචනය කීයේය.
78 "මින්පෙර අපගේ පරාජයක් නො ඇසුම්හ, දැන් පරාජයට
79 පැමිනියෙමු අපට මහත් හානි විය, මාගේ ඇමතියන් අතු
රෙන් මහත් බලපරාක්‍රම ඇති හේතෙමේද නොයෙක්වර
80 යුදකොට පරාජයට පැමිනියේය. ඉදින් නැවතත් උහුට

හානියෙක් වීනම් මට යහපත් නොවේ. මෙසේ හේතෙමේ
81 ඇමතියන් සමග මන්ත්‍රණය කොට බොහෝ ධනයද සේ
නාවන්ද සේනානාථයන්ද නොබිඳිය හැකි සන්නාහයන්ද
සඳා උහු වෙත යැවී.

82 එකල්හි රජහු විසින් එවනලද සේනාවද තමන් පෙර
83 සේනාවද රටවැසි සේනාවද යුහුව සඳා නැවතත් ගොකණ්ණා
මාත්‍යතෙමේ නිල්ගලට ගොස් මායාගෙහාධිපතියා සමග
84 මහ යුද පැවැත්වී. එහි යුදයෙහි උහුගේ බොහෝ මනුෂ්‍ය
85 යෝ වැටුනාහ. අවිද දැම්මෝය වනයටද පිවිසියෝය. මිදී
ගියෝ නැතැයි කියයුතු බවට පැමිනියෝය. යානාභා සත්
86 දමා තෙමේද වනයට වන්නේය. එතැන් පටන් යුද්ධයන්හි
87 සිත හැර එහි කළාවැව දුර්ගය ස්ථිරකොටගෙණ විසීය. සූර
අඹවනනම් රටෙහි සිටුවනලද්දාවූ ඇමතියෝ එතැනින්
දනව්වානම් ස්ථානයට ගොස් පසමිතුරු සෙන් මැරූහ.

88 බෝගම්වර රටෙහි යොදනලද සේනානායකයෝ ලඞ්කා
89 ගිරිනම් ස්ථානයට ගොස් එහි විසූ සතුරන් වැනසූහ. මිහිඳු
නගර ගිරි ආදී සේනානායකයන් මල්ලවාළානනම් රටටම
90 යුදකරණට නැවත යැවූහ. බලැත්තෝ එහි ගොස් සතුරන්
91 පසුබස්වා ඇතුල්ව ඒ රට ගෙණ අතිශයින් තහවුරු ක
ළෝය. ඒ සියල්ලෝ එතැනින් නික්ම දිය පිටින් නොයෙක්
92 නැව් සියගණනින්ගොස් යුද පවත්වා එහි සිටි දණ්ඩනා
යකයාද උහු සේනාවද රටද මුතුද ගෙණ මුතු සියහිමියා
හට යැවූහ.

93 ඉක්බිති ඒ මිහිපල්තෙමේ පිලවසුනම් ස්ථානයෙහි දුර්ගයක්
94 කරවා එහි යෝධයන්හා සේනාධිපතීන් වැස්වූහ. ගජබා
රජතෙමේ එපවත්අසා ඇමතියන් සමග මන්ත්‍රණය කොට
95 සේනාව යවන්නට පටන් ගත. විධාන දත්නාවූ පැරකුම්බා
රජතෙමේ ඒ දැන ලඞ්කානාථනම් ඇමතියන් දනව්වානම්
96 රටට යැවී. ගජබා රජතෙමේ එපවත් අසා සෙනග රැස්
කොට සේනාව දෙපරිද්දෙකින් බෙදා සන්නද්ධවූ සන්නාහා
97 යුධඇත්තාවූ සේනාව දනව්වානම් තැනටද පිලවසුනම්
98 දුර්ගයටද දෙපසින් යැවීය. රක්ඛ ලඞ්කාධිනාථනම් ඇමති
තෙමේද මහසේනාව පෙරටුකොට පරසෙන් වනසනු පිණි
99 ස එතැනින් අඹවනයට ගොස් සතුරුසේනාව සමග බුබුල
නම් ගමෙහි යුදකොට බොහෝ සතුරන් සුණුකොට පසමි
තුරු සේනාව පලාපීය.

100 එකල්හි රටවැසි ජනයෝ කපාහෙළූරුකින්ද කටුසහිත
101 වැලින්ද මාර්ගයන් දුර්ගම කළෝය. මාර්ගයෙහි සැඟවුනාවූ

ස්වරූපයෙන් සිට එකල යුද පැවැත්වූහ. එකල සතුරන්
102 නැසීමෙහි කළනිශ්චය ඇත්තාවූ ලඞ්කානම් ඇමතිතෙමේ
ඔවුන් දීසාවන්හි ලුහුබඳනේ ආවරණයන්ද සිඳිනේ තැනින්
103 තැන මහ යුදකරමින් දනව්වාවට ගියේය. හේතෙමේ පැර
කුම්බාරජහුගේ උපදෙස් අනුසාරයෙන් ඒ දනව්වාව ගෙණ
104 එහි බලකොටුවක් කොටගෙණ විසී. එකල්හි ගජබාරජ
තෙමේ දෙවලඞ්කාධිනායකනම් ඇමතියාද දෘඪාහාරනම්
ඇමතියාද උහුපරයනු පිණිස යැවී.

105 ඉක්බිති ඒ ලඞ්කාධිනාථ තෙමේද ඔවුන්හා මහයුද කොට
ඔවුන් පලවා යගාල්ලනම් පියස ගත්තේය. ගජබා නිරිඳු
106 තෙමේද ඇළිසරනම්රටෙහි සිව්පිරිස් නම් සේනාව නැවත
107 යුදකරණට යැවී. ඒ ලඞ්කානාථතෙමේද නික්ම ඔවුන්
සමගද යුදකොට කිසිවෙක් ජීවග්‍රාහයෙන් අල්වාගෙණ
108 තළාගොඩ ගත්තේය. එකල්හි ගජබාරජතෙමේ සාමදාන
යෙන් උහුවසගකරණු කැමැත්තේ මාහැඟිරුවන්ද අබර
109 ණද කොමුපිළි කොසෙය්‍ය පිළි ආදිනානාවිධ වස්ත්‍රයන්ද
110 යන බොහෝ පඬුරු දී උහුවෙත යැවී. ලඞ්කාධිනායක
තෙමේ පඬුරුගෙණ දූතයන් විකාරයට් පමුනුවා ඒ පඬුරුද
111 දූතයන්ද සියහිමියා කරා යැවී. රජතෙමේද ඒ දැක සතුටු
112 වූයේ ඒ සියලු ධනයද මාහැඟි පඬුරුද නැවත උහුටම
යැවී. ලඞ්කාධිනායකතෙමේ තළාගොඩ බලකොටුවෙන්
113 නික්ම ගඟපස ඇළිගම බලකොටුවෙහි එකල විසීය.
නැවත ගජබාරජතෙමේ සීකාදණ්ඩනායකාදිවූ යුදකරුවූ
114 මහාභටයන් උහුහා යුදකරණට යැවී. සමෘඩවූ බලවාහන
ඇත්තාවූ ඒ සියල්ලෝ නික්ම ඒ බලකොටුව අවුරා ශර
115 වර්‍ෂා වැස්වූහ. රක්‍ඛලඞ්කාධිනාථ ඇමතියාගේ ආයුධ සනාන
116 ඩවූ කිසියම් යෝධකෙනෙක් දෙරසිට බියකරුවූ යුද ක
ළෝය, දෙරටු අටළු ඇසිරුකොට විසූ ධනුර්ධරාදී යොධයෝ
117 හී තෝමර හෙලලයනා ආයුධයෙන් බොහොවූ සතුරන් වැනා
සූහ. මෙපරිද්දෙන් මහත් උත්සාහවනානවූ ඒ සියලු මහා
118 භටයෝ තුන්දිනක් නිරතුරුව මහායුද පැවැත්වූහ. සතු
රන් නැසීමෙහි තත්පරවූ ගජබාරජහුගේ යෝධයෝ බල
119 කොටුවෙහි මහදෙරටු බිඳිනට පටන්ගත්හ. එකල්හි
ලඞ්කාධිනාථතෙමේද උහුගේ යෝධයෝද නික්මුනාහු ගඟ
120 එතර දක්වා යුදකරමින් සතුරන් මැරූහ. ඉක්බිති ගඟා
ජලය සතුරන්ගේ ලෙහෙයෙන්කැලැත්කොට බොහෝ
121 සේනානායකයන් ජීවග්‍රාහයෙන්ද ගත්හ. යුඩයෙහි ගත්
ජයඇත්තාවූ රක්‍ඛලඞ්කාධිනායකතෙමේ සියබලකොටුවෙ

මහත් විජයසෘණකෙළි අනුභව කරන්නේ සතුරු ඇමති
122 යන්ගේ හිස්ද සත් යානආයුධයන්ද ජීවග්‍රාහයෙන් ගත්
නා ලද්දවුන්ද සියහිමියා වෙත යැවූයේය.
123 ඉක්බිති රජතෙමේ දෙවනම් සෙනෙවියා කැඳවා රක්‍ඛල
ඕනාථිනාථයන් විසින් කරණලද සියල්ල කියා "ගජබාරජ
124 තෙමේ බලහානිය අසා ඒ දණ්ඩනායකයන් ගන්නාපිණිස
ඒ කාන්තයෙන් මහසෙන් එවන්නේය" යි (සිතා) මහා යසස්
125 ඇති සෙනෙවියා ගජබාහිරිඳුගේ මහසෙන් දෙකඩකරණ පි
ණිස ගිරිබාරටට යැවී. ඒ මහනුවනැත්තේ ගොස් සියලු සේ
126 නාව සඳු කළාවැ ගංතෙර බලකොටුවක් කොටගෙණ එහි
127 වෙසෙමින් රජහු නියොවින් කළාවැව් නදියෙහි ඇත්අස් රිය
128 පාබල සේනාවන් විසින් යාහැකිවූ අතිශයින් සිත්කළුවූ ය
පත් ඇණසඹඩවූ දෙසියයක් රියන්දිගුවූ විසිරියන් පුළුල්වූ
129 අතිශයින් තහවුරු හෙයක් එකල්හි කරවී. ඒ සෙනෙවි
තෙමේ යම්කිසි සාමන්තයෙක් එහි සිටුවා නික්ම ඒ ඒතන්හි
130 මහයුද පවත්වන්නේ පැමිනි ජයඇත්තේ ගොස් අංගමුනම්
ස්ථානයෙහි සතුරුසෙන්හා යුදකරණුපිණිස බලකොටුවක්
131 කොට එහි විසීය.—————එකල ඒ අසා සතුරුසේනාතොමෝද
132 සෙනෙවියා වළකනුපිණිස සෙන්ගම බිඳියනොහැකි බල
කොටුවක්කොට විසීය. එකල්හි සෙනෙවිතෙමේ ගොස්
133 සතුරුසේනාහා සමග යුදකොට මහත් යසස් ඇත්තේ
සෙන්ගම ඒ බලකොටුව ගත්තේය. සතුරෝ නැවතත් දෙ
134 වරක් යුදකොට පරාජයට පැමිනි මනාභගම බලකොටුවක්
කොටගෙණ විසූය. සෙනෙවිතෙමේ එතැනින්ගොස් මනාභ
135 ගමබලකොටුව ගත්තේය. එසේම මිනාගම බලකොටුවද
ඌරුගමු බල කොටුවද ගත්තේය. ඒ බලකොටුවල නව
136 කම් කරවා සියලු බලකොටු සුන් නොකොට ඇමතියන් තබා
එහි සෙනෙවිතෙමේ තෙරිගම්හිද බලකොටුවක් කරවා එ
තන්හි යෝධයයි සම්මතවූ බල සහිත ඇමතියන් වැස්වී.
137 එකල්හි ගජබාරජතෙමේ රාමනිලගිරිනම්වූ සෙනියසා
මනායාද බොහෝසේනානාථයන්ද උහු වළකනුපිණිස යැ
138 විය. බලවාහන සහිතවූ ඒ සියල්ලෝද මොනවට සන්නද්ධව
තෙරිගමඅසල කඳවුරු බැන්දුහ. දෙසෙනාවෝ වෙග
139 යෙන් උදූසන්පටන් සග්‍රාමාරම්භකොට සවස් කාලය දක්වා
140 පැවැත්වූහ. ඉක්බිති නිලගිරිනම් සෙනෙවිතෙමේද සූර
සම්මතවූ උහුගේ යෝධයෝද පසුබස්නා තමන් සේනාව
141 දැක සන්නද්ධායුධඇත්තාහු මහායෝධයන් හෙලමින්
142 සතුරන්ට බිය උපදවමින් ඇත්මුලෙක සිංහයන් සෙයින්

සේනාමැදට පිවිසියෝය. සෙනෙවිහුගේ යුදයෙන් නොනවත්නාවූ යෝධයෝද හාත්පසින් පැතිර යත්නෝ රාම
143 නිලගිරිනම් සාමන්තාමාත්‍යයාද බොහෝ සේනාධිපතියන්ද යුඬභූමියෙහිදී මරා කඩක්කුඩනම් මහ යෝධයාහා අනිකුදු බොහෝයෝධයන් අල්වා ගත්හ.
144 එකල ඒ යුදයෙහි පැමිනි ජයඇත්තාවූ සේනාපතිතෙම ජීවග්‍රාහයෙන් අල්වා ගත්තාවූ ඒ මිනිසුන් ස්වකීය ස්වාමිවූ
145 පරාක්‍රමමහරජානන් කෙරෙහි සුවසේ වස්නාපිණිස එහි යැවීය. එකල්හි පණ්ඩිතවූ පැරකුම්බාරජතෙමේ තමන්
146 සමීපයෙහි සිටි මහිඳනාගරගිරිනම් (දණ්ඩනාථයා) කැඳවා
147 ඒ ඇමතියන් වික්‍රම විශෙෂය උහුට කීහ. ඒ අසා හටගත් අභිමාන ඇත්තාවූ සතුරන් මඩනා හේතෙමේ “මම්ද
148 ගොස් වහාම අනුරාධ පුරය ගෙණ දෙම්මැ”යි ප්‍රතිඥකොට මහසෙන් ගෙණගොස් ඩෙබරබැමාණනම් තන්හි මහයුද කෙළේය.
149 මහායසස්ඇත්තේ සියාමහනාතකුද්දුලනම්වූ ගමෙහිද තිසාවැව සමීපයෙහිද අනුරාධපුරසමීපයෙහිද මහයුද පවත්
150 වන්නේ සතුරන් පරදවා සේනා සමූහයා විසින් පිරිවරණ
151 ලදුව අනුරාධපුරය ගත්තේය. ඉක්බිති ඒ ගජබාහු නරෙන්‍ද්‍රතෙමේ එපවත් අසා මූලාමාත්‍යයන් සහිතවූ නොයෙක්
152 සෙනෙවියන් යැවීය. යුඬපිණිස සන්නද්ධවූ ඒ සියල්ලෝ නුවර හාත්පස මහා ආවරණ කොට ජනසඤ්චාරය වැළැක්වූහ.
153 එකල්හි දෙව්සෙනෙවිතෙමේ එපවත් අසා නුවර සිරකරණ
154 ලද දණ්ඩනාථයන් මුදනුපිණිස වහායන්නේ සියාමහනාතකුද්දුලනම් ගමෙහි නැවත යුදකොට අතර මගදී භයානකවූ යුඬ තුණක් කරවී.
155 මලයරායරතෙමේ ඒ අසා තමන්බලකොටුවෙන් නික්ම
156 අතරමගදී දෙවරක් යුද කොට ආයේය. සේනාපතීන්ගේ නියෝගයෙන් හේතෙමේ එක්මුඛයකින් ගොස් අනු
157 රාධපුරසමීපයෙහි සතුරුසෙන්සමග යුදකෙළේයි. සෙනෙ
158 විතෙමේද ඒ ඒ තන්හි මහයුදකොට ගොස් අනුරාධපුරසමීපයෙහි යුඬාරම්භ කෙළේය. ඒ මහබලැති මිහිඳුනම්
159 දණ්ඩනාථතෙමේ ඒ අසා අනුරාධපුරද්‍වරයෙන් වහා නික්ම පසමිතුරන් නසමින් මාර්ගයෙහි බොහෝවූ ආවරණයන්
160 බලාත්කාරයෙන් සිඳුවමින් සේනාධිපතීන් කරාම පැමිනියේය——සේනානාථයන්ගේ සේනාවද උහුගේ සේනා
161 වද එකතුව සතුරු සේනාවහා යුදකොට සතුරන් නැවත පැලවූහ. ඒ සේනාපතිතෙමේ නැවත අවුත් සියාමහනාත

කුද්දලනම්වූ ස්ථානයෙහි තහවුරුවූ කඳවුරක් කොට එහි වාසය කෙළේය.

162 එකල්හි පරාක්‍රමබාහු නරේන්ද්‍රතෙම මායාගේහනම් සේ
163 නාධිපති ඇමතියා කැඳවා ඇළිසර යුදකරණට යෙදී. හේ
තෙමේ වීරපුරුෂයන් සහිතවූයේ සතුටින් එතැනින් ගොස්
164 කලල්හැලිගම බලකොටු බැඳ වාසය කොට ඇළිසරට ය
මින් නන්දාමූලකනම් ගමබල කොටුවෙහි තුන්යුදයක් කො
165 ට ඒ දුර්ගය හස්තප්‍රාප්තකෙළේයි. ඉක්බිති හේතෙමේ කදුරු
ගම බලකොටුව නැවත ගෙණ කිරාවිනම් ගම පිහිටි බල
කොටුව යුදකොට ගත්තේය.

166 ගජබා රජහුගේ සේනාතොමෝද යුදකරණුපිණිස අවුත්
විලානනම් තන්හි බලකොටුවක් කොට එහි විසීය. එකල්හි
167 ඉක්මියනොහැකි විකුම්ඇති ඒ පැරකුම්බා නරනිඳු තෙමේ
නාලන්දාවෙහි කඳවුරු බැඳ එහි වෙසෙමින් එපවත් අසා
168 එකල්හි උමංබිඳීමෙහි දක්ෂවූ සොරුන් දෙතුන් සියයක්
රහස යවා තියුණුඅග්ඇති මුවඅංගෙණ මධ්‍යමරාත්‍රියෙහි
169 ගොස් ඒ දුර්ගය කැණ ගන්නාපිණිස නියෝග කෙළේය. මා
යාගෙය ප්‍රධානතෙමේද ඒ උපදෙසය අනුවයාමෙන් ඒ දුර්ගය
170 බිඳුවා එහි විසූ පසමිතුරන් ග්‍රහණය කරවී——හේතෙමේ
171 නැවත මැට්වැව්නම් ස්ථානයෙහිද බලකොටුව ගෙණ උඩු
කිරුවා යටිකිරුවා නම් ගම්දෙක්හි බලකොටු දෙක ගත්
172 තේය. නාසින්නම්ගම දුර්ගය බිඳ (එය) ගෙණ මෙසේ හේ
173 තෙමේ ඇළිසරරට සවිතීය හස්තප්‍රාප්තකෙළේයි. එකල්හි
විධානයෙහි දක්ෂවූ නරේන්ද්‍රතෙමේ පොළොන්නරුව වහාම
ගන්නාපිණිස සාමන්තාමාත්‍යයන් යෙදී.

174 රක්ඛලඞ්කාධිනාථතෙමේද සුඛජීවිත පුස්තකීතෙමේද ත
ළාතලබලකොටුවෙන් වෙගයෙන් නික්ම මග ඒ ඒ තන්හි
175 පසමිතුරු සෙන්සමග යුද පවත්වමින් රජකමතසම්බාධනම්
176 තන්හි යුදකොට මිලානනම්කෙත්පස යුදකොට එතැනින්
ගියේ කෙතමැදද යුදකොට බොහෝ සතුරන් මරා ඉන්මත්
177 තෙහි සතුරන් ලුහුබඳිමින් දරගලනම් තැනට පැමින එහිද
178 යුදකොට එහි ලත්ජයඇතිව ඉන් ගොස් මගලබනම් ගම
179 බලකොටුව බලාත්කාරයෙන් බිඳ එහි පසමිතුරන් නසා ඒ
බලකොටුවෙහි ඔව්හු විසූහ.

180 රුහුණුඅධිපතිවූ ඒ මාණාභරණනම් රජතෙමේ ගජබාරජ
හුගේ සාමන්තයන් හා නොයෙක් පරිද්දෙන් යුදකොට
181 පැමිනි පරාජය හා පිරිහීම්ඇත්තේ එකල්හි යුදයෙහි බැඳ

ආසා හැර භින්නාවූ උත්සාහඇතිව වෙසෙමින් තුන්නිකාවැසි භික්ෂුසඞ්ඝයා සමග අවුත් ගජබාහිරිඳුහා කරණලද මිත්‍ර
182 සන්ධිව ඇතිව විසීය. "පැරකුම් මිහිපල්හුගේ මහ බලඇති සාමන්තයෝ ඒ ගජබා නිරිඳුහා යුදකොට යුදයක් යුදයක්
183 පාසා සතුරන්නසා ගන්නාලද ජයඇත්තෝය" යි අසා මාණාභරණනරේන්ද්‍රතෙමේ මෙසේ සිතීය "මහත්වූ භොග
184 ඇති පරාක්‍රමබාහු නම් ඒ රජතෙමේ දැන් වහා ඒකාන්ත යෙන් සියලුම රජරට ගන්නේය. ඒ නරේන්ද්‍රයන්විසින් රජ
185 රට ගත්කල්හි නියතින්ම රුහුණුරට වසන්ට නොහැක්
186 කේය" ඉක්බිත්තෙන් හේතෙමේ ගජබාරජහුගේ මිත්‍රසන්ධි වය හැර පරාක්‍රමබාහුනරේන්ද්‍රයන්හා මිත්‍රසන්ධිවය කොට වෙ
187 සෙමින් දෙරට වැසි බලවත් සේනාසන්නාහ කොටගෙණ සොබරනම් ගමෙහි කඳවුරක් බැන්දේයි.

188 එසමයෙහි වනාහි පරාක්‍රමබාහු නරේන්ද්‍රතෙමේ වික්‍රම විශෙෂය කරණුකැමැත්තේ "ඒ ඒ තන්හි සාමන්තයන්
189 නොදැන වසද්දීම මම සමගවැඩුනු යෝධයන්හා පොළො
190 න්නරුව ගොස් යුද කොට දෙරටුඅටල්ල බිහිදෙර බිඳ ඇතුල්ව ගජබානරනිඳු අල්වා ගන්නෙම් නම් යෙහෙකැයි සිතුයේය.

191 ඉක්බිත්තෙන් පැණැති ඒතෙමේ අඹවෙනෙහි සිටි මායාගෙහාධිනායකයන් කැඳවා තමන් සිතූ කටයුතු කියා අන්
192 කටයුත්තක සවභාව දක්විමෙන් අඹවනයට ගොස් එතැනින් පොළොන්නරුවට යනුපිණිස උහුට මෙසේ රහස්වස
193 යෙන් කියේය, "මම සර්වඥයන්වහන්සේට උදාරතරවූ පූජවක් කරවනු කැමැත්තෙමි බුදුන් පුදනපිණිස පූජවට සු
194 දුසු උපකරණද සක්ද මහත් ශබ්දඇති පඤ්චප්‍රකාරතූර්‍ය්‍යයන්හා චාමරයන්ද සේසත්හා පතාකාවන්ද මාවෙත එවත්
195 වා ස්වාමිහුද මෙහිඅවුත් මාගේ මේ පූජව බලා වදාරත්වයි කියා හස්නක් මාවෙත එව" යි (අසුන්යවී.)

196 හේතෙමේද එතැනින් අඹවනයට ගොස් උක්තානුසාර යෙන් පූජව පිළියෙළකොට හස්නක් (රජුකරා) යැවිය. එ
197 කල්හි මහායසස් ඇති රජතෙමේ ඒ දැක සතුටුව ඇමතියන්මැද හිඳගෙණ සන්දෙසය කියවා වහාම උහුට නො
198 යෙක් පරිද්දෙන් සියලු පූජෝපකරණ යවා තමන් යනුකැමති බැව් ඇමතියන්ට ප්‍රකාශ කෙළේයි——ඉක්බිත්තෙන්
199 නරේන්ද්‍රයානන්ගේ අභිප්‍රාය දත් ප්‍රධානාමාත්‍යතෙමේ නගරගිරිනම්වූ තමන් සොහොයුරානන්ට එපවත් කියා දූතයෙක්

200 යැවීය. හේතෙමේද එපවත් අසා මොනරවැවෙන් නික්ම
සේනාව ගෙණ වහා නරෙන්ද්‍රයන් කරා ගියේය. කුමක්
201 පිණිස ආයෙහිද" යි කියනලද්දේ "ස්වාමීන් විසින් සිතන
ලද්ද දැන ආයෙමි" යි කියා මෙසේත් කීයේසි "අපවැනි
202 දසුන්ඇතිබැව්හි ප්‍රයෝජනයනම් හුදක් පසම්තුරු රජුන්
203 සාදැලීමය. එහෙයින් මම්ම ගොස් සමෘඬවූ සේනාවාහන
ඇත්තාවූ ගජබාරජහු ගෙණ නුඹවහන්සේට පාවාදෙන්
204 නෙමි" මෙසේ කියා රජහුගේ සාමන්තාමාත්‍යතෙමේ
205 යන්නට අවසර ඉල්වීය. ඒ දැක අභිමානඇත්තාවූ ඒ මායා
ගෙහාධිපතිතෙමේද කීර්තිලඞ්කාධිනාථතෙමේද බලවත්
206 බොහෝ සාමන්තයෝද "මම පළමුකොට (යෙමි) මම පළමු
කොට (යෙමි)" යි කියා අවසර ඉල්වූහ.—ඉක්බිති ඒ
207 යුද්ධොපායෙහි දක්‍ෂවූ මහීපාලතෙමේ යුද්ධොපාය ප්‍රකාශ
කොට යුදකරණට යොධයන් යැවූයේය. රථ සේනා වාහ
න සහිතවූ ඒ සියල්ලෝ නික්ම නාලඳුට නුදුරුතන්හි කඳ
වුරු බැන්දූහුය.

208 එකල්හි මහමේඝයක් නැගී දියදහරින් හාත්පසින් පො
209 ළෝබිඳපියන්නාක්සෙයින් වස්නට පටන්ගත. එකල්හි ස
ත්‍යගුණයෙහි ඇළුනාවූ ස්වාමිතෙමේ මේඝය දැක සේනාව
210 තෙමෙන සැකයෙන් "ඉදින් (මාගේ) රාජ්‍යසාධනය ලොක
ශාසනාභිවෘද්ධියපිණිස වන්නේනම් නොවසීව" යි අධිෂ්ඨා
න කරමින් සත්‍යක්‍රියා කෙළෙය. මේඝයතෙම එහි එසේ
නැවැතෙත්ය.

211 තවද එකල්හි ඇඹුල්බත් කෙසෙල් පුළු ආදිවූ නොයෙක්
කැවිලිද බොහොසේ එහි යැවිය. යම්සේ එකවිටම බො
212 හෝ ජනයෝ දියබොත්ද එපරිද්දෙන් එක සිදුරු ඇති
213 කොට විද දියෙන් පූරවා වසනලද එක් සිදුරු කළ නො
යෙක් දහස්ගණන් හුණදඬුද යැවී. ඉක්බිත්තෙන් මිහිඳු
214 නම් ඇමතිතෙමේ මහසෙන් ගෙණ නික්ම පසම්තුරන් මරා
ලඹුල්නම් ගම බලකොටුව ගත්තේයි. එකල්හි ලඞ්කා
215 නාථනම් ඇමතිතෙමේද එපවත් අසා වහා නික්ම හතත
න්නනම් ගම බලකොටුව ගත්තේ සතුරන්ද මැරවී. ඉක්
216 බිති මායාගෙහාධිනාථතෙමේද ඒ අසා මහත් සේනාඇත්
තේ වහානික්ම කඩිගමට පැමිනියේය. ගජබානිරිඳුගේ
217 ඒ සිවුරඟසේනාතොමෝ කඩිගමුසම්බාධයෙහි තුන්අතින්
වටකරණලදී.—එකල්හි ලඞ්කාධිනායකයා පිත් ලඞ්කා
218 පුරනම් මහායෝධතෙමේ කඩිගමුවෙහි සම්බාධයට වැද
219 තුන්දෙසින් ආවාවූ සියලු සෙනාව එක්දෙසට කරමින් සිංහ

යෙක් ඇත්මුලක් සෙයින් ලුහුබැන්දේය. ඉක්බිති ලඞ්කා
220 ධිනාථාදිවූ සේනාධිපතියෝ ගජබාරජහුගේ මහාසේනා
මරවා කොඩගලිකකෙදරනම්වූ ස්ථානයට පැමිනියෝය,
221 බිඳුනාවූ ගජබාරජහුගේ සේනාව පොළොන්නරුවට
ආයේය.
222 ඒ ගජබාහුනරේන්ද්‍රතෙම ප්‍රවිෂ්ටවන්නාවූ මහසේනාව දැක
හටගත් අභිමානඇත්තේ දැඩිකොට මෙසේ සිතී. "යම්
223 කලෙක්හි මාගේ පියරජතෙම දෙවියන්හා එකීභාවයට
පැමිනියේද යම්කලෙක්හි පියසතු රාජ්‍යයෙහි සුප්‍රතිෂ්ඨිත
224 නොවීද, එකල්හි කිත්තිශ්‍රීමෙඝය ශ්‍රීවල්ලභය යන නම්
ඇති රජදරුවෝ දෙදිසාවෙන් ගොස් යුදකරනෙනමුයයි ආ
225 වෝ මාගේ ජයකොඩිය දක්නට නොපොහොසත්වූවෝ
පලාගියහ. එතැන්පටන් ඔහු ජීවිතාන්තයදක්වා යුධාසා
226 හැරියෝය. දැන් වනාහි රජරට මනා ප්‍රතිෂ්ඨාවට පැමිනි
යෙමි. මාගේ සම්පූර්ණවූ සිවුරඟසෙනගද ඇත්තේය. බල
227 වාහන සන්නද්ධකොට යුදකරණපිණිස මා නික්මුනකල්හි
මාගේ රණභෙරියෙහි හඬ අසන්ට කවරනම් රජෙක් පො
228 හොසත් වේද?" ගජබාරජතෙමේ මෙසේ අභිමානයෙන්
උඩඟුවූයේ සේනාව සජ්ජිතකරන්ට අභ්‍යන්තරගත අමාත්‍ය
229 යන්ට නියෝග කෙළේයි. ඇමතියෝ මොනවට සන්නාහ
ලා සදනලද ඇතුන්ද අසුන්ද යුධයෙහි දක්ෂවූ දශප්‍රකාරය
230 කින් යුධපිණිස සන්නද්ධවූ මහයෝධයන් ඇත්තාවූ සේනා
වන්ද එසේම කෙරළ කණ්ණාට ද්‍රවිඩාදි භටයන්ද ක්ෂණය
කින්ම මොනවට සදා රජහට දැන්වූහ.
231 ඒ ගජබාරජතෙමේ මහත්වූ සෙනඟින් යුක්තව පුලස්තිපුර
වරයෙන් නික්ම සිකවියලනම් ස්ථානයට පැමිනියේය.
232 රක්ඛලඞ්කාධිනාථනම් සේනාපතීන් ප්‍රමුඛකොට ඇත්තාවූ
සේනාධිපතිහු ඒ ගජබානරනිදුහා යුදකළහ. ඒ මහවීර
233 යෝ ඇතුන්ද අසුන්ද බිඳ භාණ්ඩාගාරාදින්ද ගෙළුහ.
සේනාසහිතවූ ඒ නරේන්ද්‍රයා පලවාහූහ. ඒ රජතෙමේ වනා
234 අවුත් සියපුර වැද දොරඅගුලු ගන්වා අනුරයෙහි* සැඟවු
නේය. එකල රජහු ලුහුබදනාවූ ඒ යෝධයෝද එක්ව
235 පොළොන්නරුව හාත්පසින් වටලා ඉක්බිත්තෙන් පව්රු
අවලු දොරටු බිඳිනට පටන් ගත්හ. පුරයෙහි නියුක්ත චර
236 පුරුෂයෝ දොර ඇරපූහ. සුවසේම (නුවරට) පිවිස ගජබා

---

* අනුර පහයක් උයනක්හො එබඳු තැනක්.

237 මහීපතිහු ජීවග්‍රාහයෙන් ගෙණ ප්‍රාසාදයෙහි ද්‍රවිෂ්ට
කරවූහ. චොලගඟනම් කුමාරයාද එසේම වික්‍රමබාහුනම්
238 කුමාරයාද යන රාජපුත්‍රයන් දෙදෙන බැඳ අඟගෙයි ලූහ.
239 ඉක්බිත්තෙන් ඇමතියෝ එපවත් නරශ්‍රෙෂ්ඨයන්ට සැල
කොට යැවූහ. විචාරණයෙහි පොහොසත් නුවනැති මහී
240 පල්තෙම ඒ අසා "යම්තාක් යහපත් නකත් යෝගයෙක්හි
ඔවුනොවුන්ගේ දර්‍ශනය වේද ඒතාක් අපකෙරෙහි ශඞ්කාව
241 පහකොට විසිය යුතු" ය කියා තමා පරිභොගවූ මහාර්‍ඝ
වස්ත්‍රද සුගන්ධාභරණයන්ද ගජබාහුනරෙන්ද්‍රයන්ට යැ
242 වීය. ඉක්බිත්තෙන් සාමන්තයෝද මණ්ඩලෙශ්වරයෝද
එක්ව මන්ත්‍රණය කොට භූපාලයන්කරා මෙසේ පිළිහසුන්
243 යැවූහ. "(ගජබා) මහීපල්හු ජීවත්වනකල්හි රටවැසිවූ
මහජනයෝ වසඟයට නොපැමිනෙත්මය. එහෙයින් මේ
244 තෙම මැරිය යුතුය" ඒ අසා කරුණාවෙන් කම්පිතවූ සිත්
ඇති මහීපල්තෙම "ඒ ගජබා නරනිඳු නොමැරිය යුත්තේ
245 ය"යි සිතා එකෙණෙහි සෙත්ගම සිටි මහපැණැති දේව
246 නම් සේනාපතියා කැඳවා උහුට මේ වචනය කීයේයි "යුද
ජයින් උදම් මඩලිසුරෝද සාමන්තයෝද ඉදින් රජහු
247 ගෙණ මැරවූනම් නොහොබනේය. ඉදින් පුරයහෝ පැ
හැර එහි වසන මහජනයා පෙළා උද්දාමාකාරව පැවැත්
248 තාහුනම් හෙද නොහොබනේය. වැලිදු එකෙක් ඇත රාජ්‍ය
සාධනය සසුන්හා ලොකයාගේ වර්‍ධනයපිණිස වේ. හුදෙක්
ඒ මහීපාලයන් මරණු පිණිස නොවන්නේය. එහෙයින්
249 තොපවිසින් ගොස් උඩඟුවන්ද වලක්වා මහීපල්තෙමේ රැ
කිය යුත්තේය පුරයද ස්ථිරකටයුත්තේය" මෙසේ කියා රාජ
250 ශ්‍රෙෂ්ඨතෙමේ සේනානායකයන් යැවීය. සේනාසහිතවූ ඒ
සෙනෙවිතෙමේ නික්ම පොළොන්නරුවට ගියේය.

251 එකල්හි උඩඟුවූ ඒ අධමමනුෂ්‍යයෝ සේනානායකයන්
ගේ ගමනින් පූර්වයෙහි රජහු ආඥ උල්ලඞ්ඝනය කොට පො
252 ළොන්නරුවෙහි ගේදොර බිඳ වස්තූද පැහැරගත්හ. මිනි
සුන්ගේ වස්ත්‍රාභරණද කොල්ල ගත්හ. එකල්හි යෝධ
253 යන්විසින් උපද්‍රුතවූ ඒ පුලස්ති පුරවරය කල්පාන්තවාත
යෙන් ඇලලිගිය සාගරයසෙයින් (චචල) විය. ඒ කාර්‍ය්‍ය
254 කරණකොටගෙණ කලකිරුණාවූ නුවරවැසි ජනයෝද ඇම
තියෝද පිරිස්හුද නියම්ගම්වැස්සෝද යන සියල්ලෝම එක
255 තුව මාණාභරණනරෙන්ද්‍රයන්කරා ගොස් එපවත් සැලකොට
"අපහාසමග එත්වා අපි රාජ්‍යය ගෙණ නුඹවහන්සේට
256 දෙම්හ. හුදෙක් උපස්තම්භකභාවය පමණක් කටයුතුය"

257 යනමේ වචනය තීහූ. කළාවැව නියුක්තවූ ගොකන්නම් සාමන්තතෙමේද ඒ රජු කරම එන පිණිස දූතයෙක් යැවී.
258 දුෂ්බුද්ධිඇති ඒ මාණාභරණ නරේන්ද්‍රතෙම එපවත් සියල්ල අසා නුවනමඳවූ ඇමතියන්හා මන්ත්‍රණය කොට "නරේන්ද්‍රයන්මුදනාසේ චාටුකර්මයෙන් ගොස් පසමිතුරන් නසා
259 ඒ සියලුරජරට ගන්නෙමි" යි සිතා හේතෙමේ වහා දෙරට
260 වැසිසේනාව සන්නද්ධකොට රජරටවැසිවූ අමාත්‍යසේනා සමූහයන් සමග (පුලස්ති) පුරයට ගොස් එහි භයානක යුද්ධ
261 කොට ඒසා මහත්සේනාව නිරවශේෂකොට මරවා (මාණා
262 භරණනම්) මිහිපල්තෙම පහයට නැගී ප්‍රණාමවිධිපූර්වකව
263 ගජබාතිරිඳුන් දැක ඉක්බිති ඒ (ගජබා) නරනිඳුහුගේ රට
264 වැසිජනයන්ගේ සැකදුරුවීම පිණිස කිහිපදවසක් ඉක්මවා එකල්හි ගජබාරජහු යටත් සියලුම සාමන්තයන් මරවා රජහු ගෙණ දඟගෙයි ලැවීය.——සියලුම ඇතුන්ද අසු
265 න්ද භාණ්ඩාගාරයෙහිවූ ධනයන්ද සියල්ල හස්තප්‍රාප්ත කොට රාජ්‍යය ස්ථිරයයි සිතා රුහුණින් දන්තධාතුන්ව
266 හන්සේද පාත්‍රාධාතුවද මැනියන්ද සියලු අන්තඃපුරයද
267 ගෙන්වාගෙණ එකල්හි කරුණාරහිත දුෂ්ටහිතවූ ඒ මිහි පල්තෙමේ මැනියන්හා සාමන්තයන් සමග රහසිගතව මෙසේ මන්ත්‍රණය කෙළේය.

268 "රජහු ජීවත්වන කල්හි රජරට සෙන් තෙල රජුකෙරෙහිම යටත්බවට යෙති එහෙයින් මේතෙමේ මැරිය යුත්තේය
269 ඉදින් ප්‍රකාශයෙන් මරවන්නෙමුනම් බලවත් චචලභාවයක් හටගන්නේය. එහෙයින් මේ මිහිපල්තෙම රහස මැර
270 විය යුත්තේය" යි දුක්වූ හෝජනසයනයෙන් රජහට දුක් කෙළේය. විෂයෙදුම් විධියෙන් මරවන්ටද උපක්‍රම කෙ
271 ළේය. මාණාභරණමිහිපතිහු විසින් කරණුලබන්නාවූ උපද්‍රව විඳිනට නොපොහොසත්වූ ඒ ගජබාරජතෙම "පින්
272 වතුන් හැර මට අන් ආරක්ෂාවක් නොදකිමි, එහෙයින් දුක් නැමති අග්නිතාපයෙන් නිරතුරු තැවුනාවූ මා තුඹවහන්
273 සේ කුළුණුපැන් ඉසීමෙන් නිවව" යි මෙසේ කියා රහසිගතව පරාක්‍රමරජතුමන්කරා හසුන් යැවූයේය.
274 ඉක්බිත්තෙන් රජහුගේ ඒ සියලු වදන් මොනවට ඒ දූතයාගේ මුඛයෙන් අසා කරුණාඇත්තාවූ නරේන්ද්‍රතෙම අ
275 නල්පවූ ඛේදප්‍රාප්තව "මානිසා ත්‍රිවූවූ දුක් උහුවිසින් අනුභව කරණලද්දේය. ඒ දුකින් මිදවීමත් මාගේම යුක්තිය" යි
276 සිතා සේනා සමූහයන් හා යුද්ධොපකරණයන් නටුවාවූ කල්

හිදු මහාපුරුෂසවභා ඇතිහෙයින් නොපසුබටපැවතුම් ඇත්
277 තාවූ ඒ විචක්ෂණතෙමේ (තමන්) සමග වැඩුනාවූ පුරුෂ
යන් අතුරෙන් වීයඝීවත් ජනයන් වෙන්කොට ඔවුන්ට තන
278 තුරු දී මහත් ඉසුරු දීන. මායාගෙහාධිපතීන්ට අධිකාරි
පදවි දීන. එසේම කිත්තිශඩ්ඛනායකයන්ට ලඩ්කාධිකා
279 රිධුරය දීන; ඒ මිහිපතිතෙම දණ්ඩනායක දෙදෙනා අතු
රෙන් දෙවුනැනැත්තාට කෙශධාතුපදවිය දීන. බාල තැ
280 නැත්තාට නගරගල්ලපදවිය දී දෙදෙනාට මහ ඉසුරුද
බොහෝසේනාවද දී සඟුහ කෙළේය.

281 ඒ මිහිපතිතෙම මෙසේ මහත් බලවත්වූ සේනාව වහා
සන්නද්ධකොට ඒ සේනාව නොයෙක් දිසාවන්හි යවන්නේ
282 මෙරකඳුරුරට වදවලනම්ගමට සේනා සහිතවූ රක්ඛනම්
283 කෙශධාතුනායකයා යැවීය. එසේම රක්ඛලඩ්කාධිනාය
284 කයා මංගලබනම් ගම්හිද කිත්තිලඩ්කාධිකාරීඅමාත්‍යයා
කන්තගමනම්තන්හිද යැවීය.

285 ඒ මිහිපතිතෙමේ දණ්ඩනායක සහෝදරයන් දෙදෙ
286 නා මකුල්නම් ගමටද යැවූයේය, එකල්හි විධාන ක්‍රම
යෙහි දක්ෂවූ ඒ මිහිපල්තෙම සියසොරුන් යවා පොළොන්
287 නරුවෙහි අවුරණලද දෙවනම් සෙනෙවියා ගෙන්වා
288 දේවසේනාවක් සමානවූ මහත් සේනා දී ගංතළාවට යැ
වීය. සේනාසහිතවූ ඒ සියල්ලෝ ගොස් ඒ ඒ රටෙහි සිටි
289 යෝ නුවරවදනාමග ඒ ඒ තැන පැහැරගණිමින් සතුරන්
හිස් සිඳිමින් භයානක ක්‍රියාද කෙරෙමින් (නුවරට ගෙණයන්
290 නාවූ) ධාන්‍යද වලක්වමින් නුවරවැසිජනයා පෙළූහ. ඒ ඒ
තන්හි තබනලදයොධයෝ පොළොන්නරුව තුළද පිටද
291 සිට ඒ සතුරන් මරා විනාස කළහ. සියලෙලන් සියල්ල පැ
හැරගන්නා හයින් නුවරින් පිටත දරපලාපිණිස යන්නාවූ
292 මනුෂ්‍යයෝද නුවූහ. රුහුණින් එන්නාවූ මගද ඒ ඒ ත
න්හි අවුරා එහි වසන මිනිසුන්ගේ සංචාරය වැලක්වූහ.

293 මාණාභරණ රජහුගේ නුවර සිරකරණලද සියලු ජනයෝ
294 එකල්හි මැදිරියෙහි ලූ පක්ෂීන්මෙන් වූහ. ඉක්බිත්තෙන්
දණ්ඩනායක ඒ සහෝදරදෙදෙන යුද්දකොට කොන්තදිසා
295 විජයනායකයන් ජීවග්‍රාහයෙන් ගත්හ. බෝධිලඩ්කාධිනා
ථාමාත්‍යප්‍රමුඛවූ සේනාවසමගද යුද්දකොට (ඔවුන්) පොළො
296 න්නරුව දක්වා ලුහුබඳැන්ඡේය. වදවලගම්හි සිටි ඒ
කෙස්දනාතෙමේද උත්තමනම්වූ දණ්ඩනාථයන් සමග
297 යුද්දකොට ගත් ජයඇත්තේ, නාලනම් ගමට ගොස් බු
298 ත්නාවන්හා යුද්දකොට ජයලැබීය, මඩ්ගලබනම්ගම සිටි

රක්ඛනම් අධිකාරීතෙම එහි පසමිතුරන්හා යුදකොට හත්ථ
299 නානම් ගම ගත්තේය. මහායසස්ඇති හේතෙමේම ක
ඩිගමුවෙහි නාථනම් අධිකාරීන්හා යුදකොට සෙන්සහිතවූ
උහු පලාපීය.

300 මාණාභරණරජතෙමේ ඒ අසා උහුහා සමග යුදකරණට
මැසිව්යලනම් ස්ථානයට යෝධයන් ගෙණ ගියේය. එකෙ
301 ණෙහි කත්තනගමසිටි කිතුඅදිකාරිතෙමේද ගංතළාවෙහි සිටි
302 දෙව්සෙනෙව්තෙමේද මකුල්ගම සිටි දණ්ඩනායක සහෝ
දරයෝ දෙදෙනද යන මොව්හු මහබලැතිව යුදපිණිස
303 සන්නාබද්ධවෝ නික්ම හමු හමුවූ සතුරන් මරමින් පලවමින්
304 නොයෙක් දෙසින් පොළොන්නරුවට ගොස් නුවර අවට
රැකවරණපිණිස සිටි යෝධයන් පන්නා ගජබා නරනිඳුන් මු
305 දා මාණාභරණරජහුගේ අන්තඃපුරයද කුමරුන්ද මෑනියන්
306 දැයි යන සියල්ල හස්තප්‍රාප්ත කළෝය. ඉක්බිති ඔවුන්විසින්
මුදනලද්දාවූ ගජබා නරනිඳුතෙමේ එකෙණෙහි පලාගොස්
307 වහාම කොටුසරට ද්‍රවිණවිය. රක්ඛලඞ්කාධිකාරීන්හා යුද
කරන්නාවූ මාණාභරණනරේන්ද්‍රතෙමේද එකල්හි එපවත්
308 සියල්ල අසා ප්‍රියවිප්‍රයෝගයෙන් උපන්නාවූ ශොකනැමති
හුලින් පහරණලද්දේ ජීවිතයෙහි අපෙක්ෂාරහිතව සන්නා
309 ඔවූ සන්නාහායුධඇත්තේ මහසෙන් ඇතිව නැවත රාත්‍රි
යෙහි නුවරට ගොස් සතුරන් නැසීමෙහි තත්පරව මහයුද
310 පවත්වන්නේ යුදකොට යුදෙහිම බොධිලඞ්කාධිනාථයන්
මළකල්හි ඒ පොළොන්නරුවෙහි වසනු නොහැක්කේ එ
311 තැනින් දන්තධාතුන්වහන්සේද, පාත්‍රාධාතුවද තමන්මෑනි
යන්ද අන්තඃපුරයද ගෙණ රාත්‍රියෙහි රුහුණට ගියේයි.

312 එකල්හි පරාක්‍රමබාහුනරේන්ද්‍රතෙම ගජබානරනිඳුන් මු
දනපිණිස බුද්ගමුවෙන් නික්ම නුවර සමීපයට අවුත් අති
313 සයින් සිත්කළුවූ දෙමහල් පහයක් කරවා සේනාවාහන
314 සහිතවූයේ ගිරිතළානම්ගම වාසය කෙළේය. එකල්හි ව
නාහි නරේන්ද්‍රයන්ගේ යෝධයෝ තිසිකෙනෙක් යුදව්ඩා
හරිණුපිණිස තන්තාරුනම්ගමට ගියහ. ගජබානරේන්ද්‍ර
315 යන්ගේ මිත්‍රද්‍රොහිවූ සාමන්තයෝ සාහසිකව රජහු පිටිපස
කොට ඔවුන්හා සමග යුද කළාහුය. ඒ අසා රැහැණිසිත්
316 ඇති පැරකුම්බානරේන්ද්‍රතෙම ඒ ගජබානිරිඳුන් ගන්නාපි
ණිස ස්ථිකීය සාමන්තයන් යැවීය. ඉක්බිත්තෙන් කීර්ති
317 ලඞ්කාධිකාරිතෙමේද දෙවනම් සේනාපතිතෙමේද මහ
සෙන් ගෙණ තන්තාරුනම් ගමට ගොස් ගජබානරනිඳුන්
318 ගේ සාමන්තයන්සමග තුන්වරක් මහයුද කොට බොහෝ

319 සතුරන් වැනසූහ. නාථනගරගිරිතෙමේද මඤ්ජීවිතපුස්
තකි තෙමේද වැලිපත්නම්ගමෙහි පසමිතුරුසෙන් පැල
වූහ.

320 එසේම තනාතරුගම මහසෙන්ඇති සාමන්තයෝද එ
321 කල්හි ගමුව ආවාවූ පසමිතුරුසෙන් මරමින් ගොස් කො
හොඹගම නැවත යුද කොට එහි බොහෝ සතුරන් මරා බල
322 කොටුව බිඳගත්හ. ඔව්හු අඹගමුනම් තන්හි සන්නාධකොට
සිටි බොහෝ සතුරන් පලවා දුශීය තමන් අත්පත්කළහ.
323 ඉක්බිත්තෙන් ඔව්හු ගොස් තනාතිතොට ලත්ජයඇත්තාහු
ගමන්කොට අතුරුවිට්ටියෙහි සතුරන්ද පැලවූහ. එකල්හි
324 පැරකුම්බාමහරජනන්ගේ ඒ කිසියම් සාමන්තකෙනෙක්
මහසෙන් විසින් පෙරටුකරණලද්දාහු පොළොන්නරුවෙහි
325 විසූහ. ඔවුන්හා යුදකරණුපිණිස ගජබාරජහුගේ දෙවා
ධිකාරී ආදිවූ ඇමතියෝ අවුත් පරාජයට පත්වූහ. එසේම
326 කළුපිලනම් ස්ථානයෙහි බොහෝසතුරන් පැරදවූහ. ඔව්හු
327 සතුරන් මරා මීවනගැටයෙහි විසූහ. ඒ සියල්ලෝ වහාම
ඒ ඒ දෙසින් ගොස් රජහු ගත්නාකැමැත්තෝ පැතිරගියා
328 හුය. සේනා හාත්පසින් පැතිරඑන්නා අසා රජතෙම එ
කල්හි ගතයුතුවූ අන්ගැන්මක් නොදක්නේ ඒ රජ
329 තෙම තුන්නිකාවැසි පොළොන්නරුවාසීවූ භික්ෂුසඞ්ඝයාට
330 "ස්වාමින්වහන්සෙලා හැර මට අන්පිහිටක් නොදකිමි අනු
කම්පාපිණිස දුතින් මා මුදවත්ව" යි කියා හස්නක් යැවී
331 ය. එකල්හි ඒ භික්ෂූහු කරුණාවෙන් කම්පිතවූ සිත්ඇ
තිව ගිරිතළාවට ගොස් පැරකුම්බා නරනිඳුහු දැක පිළිස
332 ඳර කථාකොට පැමිනි කරුණු රජහු විසින් පිළිවිසිනලද්
දාහු උභයට සමගිකරණ බස් මෙසේ වදාළහ. "දයාවෙහි
333 ඇලුනාවූ ඒ භාග්‍යවත් සර්ව්ඥතෙම බොහෝසේ නොයෙක්
සූත්‍රයන්හි ධබරයෙහි දෙස්හා මිතුරුබැව්හි අනුසස් දැක්වූ
334 සේක. යලිත් ඒ නරනිඳුහු පුත්‍රයෙක්හෝ සහෝදරයෝහෝ
නැත වැලි එකෙක්ඇත, මහලු බැවින් තෙමේ මරුමුවෙහි
335 සිටියේය, ලොකශාසනාභිවෘද්ධිය හේතුකොටගෙණ රාජ්‍ය
සාධනය වේනම් භවත්හුගේ ප්‍රතිඥාවද නොබෝකලකින්
336 ම සමෘද්ධවේ, එහෙයින් භික්ෂුසඞ්ඝයාගේ වදන් පුදන්නාවූ
භවත්හු විසින් සටන් හැර සියරට යා යුතුවේ" (යනමේ ක
ථාසි,)

337 මෙසේ පරාක්‍රමබාහු නරෙශ්වරතෙම සඞ්ඝයාගේ බස්
අසා අතිසයින් දුකසේ ගත්තාවූ රාජ්‍යය ගජබාහුනරේන්ද්‍ර

යාට ද සියරටටම ගියේය, ඒ නරනිඳුහුගේ කරුණාපර භාවය ආශ්චර්‍ය්‍යයීසි.

මෙතෙකින් සුදිජනයාද්‍රසාදසංවෙගපිණිස කළ මහවස රජ්ජදූනනම්වූ සැත්තෑවෙනි අදියර නිමි.

# 71 වෙනි පරිච්ඡෙදය.

1 ඒ ගජබා මිහිපල්තෙමේ ගංතලාවට අවුත් රාජධානියක්
2 කොටගෙණ එහි සුවසේ වාසය කෙළේය. එකල්හි ඒ මා ණාභරණනම් නරෙන්ද්‍රතෙම ගජබා රජුහා මිත්‍රසන්ථවය
3 කොට වසන පිණිස පඩුරු යැවීය. උහුහා සමග මිත්‍රසන්ථ වය නොකැමති ගජබා මිහිපතිතෙම මඩුලුගිරිනම් විහාර
4 යට පැමිණ "රජරට මාවිසින් පැරකුම්බා නරනිඳුන්ට දෙන
5 ලද්දේය" යි කියා හේතෙමේ පිටුපසාණෙක්හි ලියවා නැවත අවුත් ගංතලාවෙහි වසන්නේ එක් රෙගයකින් පෙළී දෙ විසිහවුරුද්දක් වැස මෙළේය.
6 ඉත්බිත්තෙන් නුවනමදවූ ඇමතියෝ රුස්ව ගජබා රජ හුගේ දෙහය ගෙන්වාගෙණ කොටුසරට ගොස් ඔව්හු වහා
7 එනුපිණිස මාණාභරණරජහට දූතයන් යවා එකල්හි එහි
8 වාසය කළෝය——පරාක්‍රමබාහුනරෙන්ද්‍රතෙමේද (ගජබා හු) මහරජනත් මළ අස්න අසා සෙනා සන්නාඞකොටගෙණ පොළොන්නරුවට ආයේය.
9 එකල්හි මාණාභරණ මහිපතිතෙම රජරටින් අවුත් රුහුණු වැසි ජනයන්ගෙන් මහත් සේනාවක් සමග ක්‍රැර
10 යන් බස්ගෙණ "මොවුන් උපසෙමහකකොට ඒකාන්ත යෙන් රජරට ගණිමු" යි සිතා මහත් සේනාසමූහයා සමග
11 රුහුණින් නික්ම නිෂ්ඵලවූ ආශාවවිසින් වසගකරණලද්දේ
12 කොටුසරට පැමිනියේය. චින්තාවිෂයාතික්‍රාන්තාවූ අතික්‍රා න්තකළ නොහැකි උදරවික්‍රමඇති ශ්‍රෙෂ්ඨපරාක්‍රමබාහු
13 නරෙශ්වරතෙම එපවත් අසා "මහාසම්පත්තිදායකවූ ගජ බාහුනරෙන්ද්‍රයන්හා සාමන්තයන්ද යුඩයෙහි බැඳුනාවූ අ
14 සාවද හැර හඳනාලද වසත්‍රයටද අස්වාමිබවට පැමිනහසින් පලාගොස් වන් රජරට වැසිවූ දුර්ජනයන්ගේ ප්‍රලාපය උතුම්
15 සේ අදහා යම් මාණාභරණ මහිපතියෙක්තෙම යුද්දපිණිස
16 ආයේද උහු ගජබාහුනරෙන්ද්‍රයන්විසින් පැමිනි පරාජයටත්

වඩා විගුණවූ පරාජයට මාගේ අමාත්‍යයෝ පමුනුවන්නාහුය
17 උහු මහවැලිගඟින් මෙතර පැමිනෙන්ටද නොදෙම් ” යි සි
තා යුද්ධාරම්භයෙහි විචක්ෂණවූ නුවනැත්තේ විල්ගම් තොට
18 පටන් ගොකන් මුහුදතෙක් තොටක්පාසා අමාත්‍යයන්
සහිතවූ චතුරඞ්ගිනී සේනාව වැස්වූයේය.
19 එකල්හි මහනුවණැති ඇමතියෝ රැස්ව දෙහොත් මුදුන්
20 දී “ මහරජනෙනි ජයගත්තාවූ පුරාතන රජදරුවෝ වූකලී
සර්වප්‍රකාරයෙන් ජනයන් භයානුරාග වැඩෙන පිණිසද
21 ස්වකීය තේජෝවිශෙෂය සැමතන්හි ප්‍රකාශ පිණිසද යුද්ධ
22 භූමියෙහි සිටත් අභිෂෙක පැවැත්වූහ. සර්වප්‍රකාරයෙන්
නීතියෙන්ද හික්මීමෙන්ද යුක්තවූ ස්වාමීන් විසිනුත් සදාචාර
23 පරිපාලනයම කටයුත්තේය, දේවයන්වහන්ස නුඹවහන්
සේගේ වයසද අභිනවය තෙජසද (සතුරන්විසින්) නොයිව
24 සිය හැක්කේය. බාහුවික්‍රමසම්පත්තියද ඉක්මිය නොහැක්
කේය; නුඹවහන්සේගේ පුණ්‍යප්‍රකාශයතෙම ලඞ්කාවීපය
25 තබා සියලුම දඹදිව අධිපතිභාවය පවත්වන්ටත් සමර්ථය,
නුඹවහන්සේගේ වංශය ආදිකල්පයෙහි පටන් අද මේ දවස
26 දක්වාත් ධෞතශඞ්ඛප්‍රක්ෂිප්තක්ෂීරයක් මෙන් අතිශයින්
නිර්මලය, එහෙයින් සියලු ලෝකයාට අවශ්‍යයෙන් සම්පත්
එලවන්නාවූ අභිෂෙකය ශුභදිනයෙක්හි කටයුතුය ” තියා
අභිෂෙකපිණිස මහීපාලයන්ට යාච්ඤා කළහ.
27 විවෙක ඇත්තාවූන් අතුරෙන් උතුම්වූ බැමබිඳුමෙන් දිනූ
පසමිතුරන්ඇති පැරකුම්බා මිහිපල්තෙම ඒ යාච්ඤාව පිළි
28 ගෙණ පසස්නා නකතින් මගුල්සම්මතදිනෙක්හි සව්බර
ණින් සැරසුනේ හිසින් වොටුනු දරා “ මාණාභරණම්හිපති
29 තෙම ගංමෙතර පත්විය ” යි අසා උහු තණපතටත් නො
හගනේ නුදුරුතැන තමන් නැගි සිත්කළු රුවන් මඩපයෙ
30 හිම තමන් සනාහද අවිද තබා මහපෙරහරින් සියමැදු
31 රෙන් නික්ම බියසුන් මිගිදෙකුසේ නුවර පැදකුණුකොට
32 ඒ ශොභාවෙන් පැමිනිජනයා ආශ්චර්යයෙන් අවසඟකෙරෙ
මින් සිරිනිවෙස්වූ රජමැදුරට පිවිසියේය.

[මේ පරිච්ඡේදනනයක්මෙන් සැලකියයුතු තැනකි.]

33 එකල්හි (මාණාභරණරජහුගේ පක්ෂයෙහිවූ) මහීඳනම්
මහාලෙඛකතෙම මහසෙන් ගෙණ අවුත් විල්ගම්තොට සිටි
34 මහතෙදැති රක්ඛක්නම් කෙශධාතුකනායක (සෙනෙවියන්)
හා මහයුද කෙළේසි. ඒ මහබලැති කෙශධාතුනායක රක්ඛ
35 සේනාධිපතිතෙමේද ඇත්මුලකට වත් සිංහයෙකු පරිද්දෙන්
උහුගේ බොහෝවූ වීරභටයන් මරවා සැඩපවන පුළුන් පෙ

36 දක් සෙසින් බලවාහන සහිත බලවත් මහාලෙඛකයන් පලවාපීය.—තවද තලනිගම්තොට පැන යුදපිණිස එනු
37 කැමතිවූ උග්‍ර ඒ කෙශධාතුනායකරක්ඛසේනාධිපතිතෙමේම මහත් යුදකොට පලවාපීය.

38 එසේම පූණ්ණනම් තොට තරණයකොට යුඬපිණිස එන්ට සජ්ජිතවූ මාණාභරණරජහු ඒ තොට රැකවරණපිණිස යො
39 දනලද්දාවූ බුද්නම් කෙශධාතුනායකතෙම ඒ රජහුගේ බොහෝවූ ඇමතියන් සමග භයානක යුඬ පවත්වා බො
40 හෝවූ යෝධයන්ද මරවා එකෙණෙහි උග්‍ර පලවා ඒ තොටට නැවත එනුපිණිස (උපදනා) ආසා නැතිකෙළේය.

41 එසේම සම්රුක්නම් තොට රක්නට යොදනලද එක්සාමන්තප්‍රධානයෙක් යුදකෙරෙම්සි සිතා ඒ තොටින් අවුත්
42 පැමිනියාවූ මායාගෙහනායකය එසේම ගජබාය යන මොවුන් සෙන්සමග බින්දේය.

43 මාරුක්නම් තොට එතරයෙම්සි සෙන්සහිතව ආවාවූ මන්ත
44 තාලයයි ප්‍රසිඬවූ මාරගලසෙනෙවියන් නිල්ගිර සිටි අතිස
45 සින් උදාරපරාක්‍රම ඇත්තාවූ සියරටවැසි රාමනම් ඇමතිතෙම කියඑලවන යුදකොට අල්වාගතයුතු මහායෝධයන්
46 ජීවග්‍රාහයෙන් ගෙණ යුඬයෙහි අවශෙෂවූ සෙනාග උත්සාහ රහිතකොට පලවාපීය.

47 තවද පොල්වතුනම්වූ තොට විසූ එක්සාමන්තයෙක් එ තැනින් යුදපිණිස පැමිනි පසම්තුරු රජසෙන් සමග යුද කොට බොහෝවූ භටයන් මරවා අවශෙෂවූ සේනාව නිරවශෙෂකොට ඔබ මොබ පලවාපීය.

48 අනන්තර භණ්ඩනම් තොට රැකවරණපිණිස සිටියාවූ මහබලැති වීරවූ කිසියම් සාමන්තාධිපතියෙක් යුදපිණිස
49 එතැනින් ආවාවූ සාමන්තයන් සහිතවූ පසම්තුරු මහරජ
50 සෙන් යුඬාගනයෙහි එක් මස්කලව්ටක් කොට සාමන්තයන් සමග අවශෙෂවූ සේනාව හාත්පසින් එකතුවූ වෙග
51 වත් මේඝකූටයක් මාරුතය සෙයින් ඒ ඒ දෙස පලවාපීය.

52 කණතල්වන නමින් ප්‍රසිඬවූ තොට රැකවරණයෙහි යොදන ලද්දාවූ එක්සාමාන්තාධිපතියෙක්තෙම සියල්බල වාහන ඇතියේ එතැනින් යුදකරණට ආවාවූ සතුරුසෙනග මහයුද පවත්වා නැවත යුඬාරම්භයෙහි දුර්මුඛ කෙළේයි.

53 යක්ඌරතොට යොදනලද්දාවූ කීර්තිනම් අධිකාරිතෙම එතැනින් යුදකරණට ආවාවූ පසම්තුරුසේනාව සමග ඉතා
54 දරුණුවූ යුදකොට බොහෝවූ සියලු යෝධයන් කථාසේස
55 කොට අවශෙෂයන් පලවා එම තොටම වෙසෙමින් පැර

තුම්බා මහරජානන්ගේ ඉක්මිය නොහැකිවූ හස්තකින්
56 එහි එක් මහඇමතියෙකු යොදූ තෙමේ ආයේයි — ඒ ඇම
තිතෙමේද තුන්වරෙක එහි ආවාවූ පසම්තුරු සෙනග නැ
වත මහයුද කිරීමෙහි ආසා සුන් කොට බින්දේය.

57 වෙහෙර වෙදහල් නම් තොට විසූ ජිතගිරි ශානතනම්
මහසෙනෙවිතෙමේ උදාරවූ සෙනාවාහන ඇත්තේ එතැ
58 නින් එතරවෙන පිණිස පැමිනියාවූ ශත්‍රුරාජ සේනාව භයා
නකවූ මහයුද පවත්වා නිරවශෙෂයෙන් විනාසයට පත්
කෙළේය.

59 අස්මඩලා තොට විසූ කීර්තිපුෂ්තකීනම්වූ ඇමති තෙමේද
මහසෙන්ඇති මහීනම් ඇමතිතෙමේද, මහබලැති ලඞ්කා
60 ගිරිනම් ඇමතිතෙමේද අන්‍යවූ මහාසේනාතොමෝද (යන
මොව්හු) ආවාවූ පසම්තුරු සෙන්මරා තුමූ පෙරලා රජූකරා
අවුය.

61 අකුරල් ගග සමීපයෙහි විසූ විරපුරුෂයෝ හෙය පැන
සකසුණ්ඩනම් ආරාමයට වැද එකෙණෙහි යුද කොට බො
62 හෝවූ යොධයන් ජීවිතක්ෂයට පමුනුවා ඒදෙසින් පසමිතු
රන්ගේ පෙරලා ආගමනයෙහි ආසා සුන් කළෝය.

63 ඉක්බිත්තෙන් විල්ගම්තොට විසූ සඞ්ඝනායකනාථනම්
සේනාපතිතෙමේ ඒතැනින් යුදකරණට ආවාවූ සතුරු රජ
64 සෙන් බිඳ තෙමේ ගඟින් එතරව පැන්මඩුනම් ගමෙහි
මහත්වූ සතුරුසෙන් නසා විසූතැනට පෙරලා ආයේය —
65 එසේම සමීතොට යොදනලද මහසේනාතොමෝ ඒදෙසින්
යුදකරණු පිණිස ආවාවූ සතුරුසෙන් වහා මරා නැවත
66 එනුකැමැති බැව් බැහැර කෙළේය — සුළුනාතොට සිටි
67 බොහෝවූ රාජසේනාතොමෝ ඒදෙසින් සන්නද්ධවූ සනානා
භායුධඇතිව පැමිනි බොහෝවූ පසම්තුරු රජසෙන් නිරව
68 ශෙෂකොට වැනසීය — බුරුදගොඩද දණ්ඩනායක දෙ
69 බැයෝ ඒදෙසින් පැමිනි සතුරුසේනාව බින්දූහ — නික
වැලිතොට ආරක්ෂාකාරීවූ රක්ෂනම් මහාවීරවූ අධිකාරිතෙ
70 මේ සියලුබිය ඉක්මවූයේ දෙමසක් නිත්‍යරබ්ධවූ මහයුද
පවත්වා එතැනින් එතරවෙන්ට පැමිනි මහත්වූ පසම්තුරු
සෙන් මූලොච්ජිනන කෙළේය.

71 එසේම කඩක්කුඩයයි ප්‍රසිඬවූ ලඞ්කාපුරනම්වූ මහාවීර
තෙමේ යැදිගම පවත්වනලද මහයුදඇතෙත්, සතුරන්ගේ
72 මහත් බලසෙන් මූලඝාතනයෙන් මරවා බලවත්වූ මහෙ
ත්සාහඇතෙත් පසම්තුරු සේනාව නිරුත්සාහකොට බින්
73 දේය — බිල්පත්කඩ සිටි ආරක්ඛක සඞ්ඝනායකතෙමේ එ

74 තැනින් යුදපිණිස පැමිනියාවූ සතුරුසෙන් බින්දේය.—— නොටගමුවෙහි රැකවරණ පිණිස යොදනලද්දාවූ මහසෙන්
75 ඇති ඇමැතියෙක්තෙම එතැනින් යුදපිණිස ආවාවූ රජසෙන් පටන්ගන්නාලද මහායුධප්‍රයත්න ඇතෙත අතිශයින් දරුණු වූ යුදකොට නැවත යුධයෙහි උත්සාහ රහිතකොට පැලවීය.

76 නඞ්ගම නියුක්තවූ බලවත්වූ එක් සේනාධිපතියෙක්තෙම කරණලද මහයුදඇතෙත් එතැනින් පැමිනියාවූ මහසේ
77 නාව හෙළකෙළේය.—— ඉක්බිති හෙදිලිකඩනම් ගම සිටි දෙවසෙනාපතිතෙමේ සන්නද්ධවූ සේනා වාහන ඇතිව මහා
78 සේනාසමූහයා සමග මහිඳු කුමාරයා යුදකරණුපිණිස පැමිනිකල්හි උභයා සමග සිවුවරක් යුදකොට හෙතෙම
79 යුධාඞ්ගනය ශත්‍රුයොධයන්ගේ ඇටසැකිලෙලන් පූර්ණ කොට නොපිරිහුන් සේනාවාහන ඇත්තේ කුමාරයා හිනා
80 ගකොට සෙනගසමග පලායන්නා පස්සේ ලුහුබැඳ ගොස් එකෙණෙහි බෙල්ගමුනම්තොට පැමිනියේය. ඉක්බිති
81 එහි දෙමසක් භයානක යුධවූයේය. සෙනෙවිතෙම එහි සිටියේම සතුරුසේනාව පැලවූයේය.—— මල්ගමුනම්තො
82 ට සිටි සාමන්තාධිපතිතෙම දසවරක් පටන්ගන්නාලද මහ යුද සැණකෙළිඇත්තේ එතැනින් ගඞ්ගාතරණයට පැමිනි
83 බලවත්වූ පසමිතුරුසේනාව උදවනගිරු අඳුරුකඳ සෙසින් බිඳහැරියේය.

84 ගොලබාහනම්තොට ආරක්ෂාපිණිස යොදනලද්දාවූ ම
85 හත් බල පරාක්‍රම ඇති එක් සාමන්තප්‍රධානයෙක්තෙම යුද කරණුපිණිස එතැනින් ආවාවූ සාමන්තයන්සහිතවූ සතුරු
86 සෙන් කෙසරසිංහයෙක් මුවරැලක් පරිද්දෙන් යුධයෙහිදී පලවාපීය.—— දිපාලයයි ප්‍රසිඬතොට යොදනලද්දාවූ සෙන් ඇති එක් සාමන්තයෙක්තෙම එතැනින් ආවාවූ (සතුරු) සෙන් යුදෙහිදී බිඳ හැරියේය.

87 මෙසේ යුදපවත්නාකල්හිම රාජසමූහනායකවූ භීමපරා
88 ක්‍රම ඇති පරාක්‍රමබාහු මහරජතෙමේ "යුදයෙහි මෙතැනින් බුන් මාණාභරණ රජහට රුහුණද පිහිටක් නො
89 දෙන්නෙමි" යි සිතා මානියමුවා රටද පස්යොදුන්රටද සිටි දේවිලය ලොකය යන කෙස්ධනාවන් දෙදෙනාහා අරක්
90 කම්නාවන්ද එසේම සන්නාහ නායකයන්ද (කැඳවා) යුදයෙහි බඳසිත්ඇතෙත් රුහුණු යන්ට නියෝග කෙළේය;
91 චතුරවූ ඔව්හුද ඒ (මහරජානන්) නියෝගයෙන් සක්දෙව් රජහු නියොවින් සතරවරම් මහරජදරුවන් මෙන් නික්
92 මුනහ. ඉක්බිතෙතන් ඔව්හු නවයොදුන්නම් රටට පැමින

93 එහි සිටි මහත් පසම්තුරු සෙන්සමග විසිවරක් මහයුද සැණකෙළිකොට මහාසේනා මරවා නවයොදුන් රට ගෙණ
94 එතැනින් නික්ම කළුපහන්බඩට පැමිණ එහි සිටි සෙන් ස
95 මගද මහයුද විසෑක් කොට ඒ රටද හස්තප්‍රාප්තකොට නික්ම එසේම මත්තෙහි ගියාවූ ඔව්හු දිගැලිමහකෙත ගත්හ.
96 ඒ මාණාභරණනරේන්ද්‍රතෙම එපවත් අසා ස්වකීය සේනාව දෙකක් කොට බෙදා කොටසක් එහි යැවීය.
97 ඉක්බිත්තෙන්. අනුරාපුරය රක්නා දුර්බුද්ධිවූ නාරායණ
98 නම් දණ්ඩනායකමහාමාත්‍යතෙම "මේ රට අත්පත් කොට කොටුවක් පිහිටුවා රජුන්ට නොවසගව වසන්නෙමි" යි
99 සිතූයේය. වීරවූ පරාක්‍රමබාහුනරේශ්වරතෙම එපවත් අසා
100 "උහු මුල්ඇතිවනු නොදී නිර්මූලනය කෙරෙමි" යි සිතා
101 යුහුව ඡත්‍රග්‍රාහකනායකයන් යැවීය. ඒ මහාමාත්‍යතෙමේද මුවෙකු වෙත හෝ කුඩාඇතෙකු වෙත යන සිංහයෙකු සේ අසම වික්‍රම ඇතිව ගොස් උහු හා සමග මහයුදකොට සෙන් සහ උහු නසා රට නිෂ්කණ්ටක කෙළේය.
102 එකල හාත්පස ප්‍රසිද්ධ ධාතූන් රකුසන් රැකවරණ කොට සිටිසේ මහරජනන්ගේ මහ ඇමතියන් රැකවරණ කොට
103 සිටිත්ම ඒ ධාතූන් උනතරණය කරන්ට අසමර්ථවූ මාණාභරණ රජතෙම තමා වසහවූ රජරට වැසියන් විසින් කියන
104 ලද අප්‍රසිද්ධවූ එක් තොටකින් මෙතර විය. ඉක්බිත්තෙන් පැ
105 රකුම්බාරජතෙම එපවත්අසා ගංතොටදී සෙන්සහිතවූ උහු නිර්මූලනය කරණට සිතා මොනරගල්නම් ස්ථානයෙහි දුර්ගයක් පිහිටුවා යුදකරණුපිණිස බොහෝවූ භටයන් විසින් පිරිවරණලද්දවූ උදාරතර පරාක්‍රමඇති බොහෝ සේනාවාහන
107 ඇති රක්ඛාධිකාරිනම් අමාත්‍යයා යැවූයේය. ඒ රක්ඛාධිකාරි අමාත්‍යතෙම තමාකෙරෙහි වෛරීවූ දේවනම්සෙනානායක
108 යන්විසින් පවත්වනලද මහයුද්ධයෙක්හි පහන් සිත්ඇත්තාවූ කෙළෙහිගුණදන්නා පැරකුම්බාරජහුවිසින් දෙනලද ඒ මහාප්‍රසාදය මහා ඊෂ්‍යාවෙන් නොසිවසන්නේ මහරජනන්
109 කෙරෙහි කලකිරුණවූ ඒ තෙමේ යුද්ධයෙහි ආදර සහිත නොවීය. ඊර්ෂ්‍යා ජ්වර ඇතිමන්දබුද්ධිවූ හේතෙමේ අලසවූයේ උත්සා
110 හ නොකෙරේ. එකල්හි ගජබාහු නරේන්ද්‍රයන්ගේ සාමන්තවූ අසත්පුරුෂයෙක් පරාක්‍රමබාහු නරේන්ද්‍රයන් කෙරෙන් ලත්
111 අභය ඇත්තේ උහු සමග ගියේ උහුගේ භාවය ස්වභාවයෙන් දැන ප්‍රථමකොටම මාණාභරණනරේන්ද්‍රයන්හා කරණලද
112 මන්ත්‍රණද ඇත්තේ දුශ්ශීලාරම්භයෙන් පළමුකොට වහාම එන්ට මාණාභරණරජුවෙත යුහුවම හස්නක් යැව්ය.

113 මාණාභරණනරෙන්ද්‍රතෙම එපවත් අසා සඬිතිය සේනාව
114 ඒ ඒ තන්හි මහයුදයෙහි යෙදූයේය—ඉක්බිත්තෙන් ම
හිතුනම්වූ කුමාරතෙම දෙවසේනානායකයන්ගේ සාමන්තා
115 මාත්‍යයන්හා වැල්තොටදී යුද කෙළේය. බලවත්වූ ඒ ඇ
මතියෝද ඒ කෲරයුද්ධයෙහි බොහෝයෝධයන් මරුමුවට
පමුනුවා ක්‍ෂණයකින් කුමාරයා දුර්වලකොට පැරදවූහ.

116 මාණාභරණරජ තෙමේම රක්ඛාධිකාරිනම් මහාමාත්‍යයන්
117 සමග කඩුවෙන් කඩුව ගැහැටීමෙන් හටගත් ගිනිපුපුරු
ඇති මහයුද කෙළේය—ඒ යුදයෙහි උභයපක්‍ෂගතවූ
බොහෝවූ මහායොධයෝ නැසුනෝය—ඉක්බිත්තෙන්
රක්ඛාධිකාරිනම් අමාත්‍යයාගේ පිරිස්තොමෝ බිඳුනාය.
118 ඉක්බිත්තෙන් (රක්ඛාධිකාරි) තෙම හුදකලාවම සියතින් යුද
කොට බොහෝවූ මනාභටයන් මරුමුව පමුනුවා එහිම
තෙමේත් මෙළේය.

119 ඉක්බිත්තෙන් භයානකවූ පරාක්‍රමඇති පරාක්‍රමබාහු න
120 රෙන්ද්‍රතෙම එපවත් අසා සිනාසහිතවූ මුව පියුම් ඇත්තේ
"මා ජීවත්වනකල්හි ජීවත්වන්නාවූහෝ මැරුණාවූහෝ
ඔවුන්ගෙන් කවර ප්‍රයෝජනද, සිංහතෙම ඇත්කුඹුපැලී
121 මෙහි යහළුවෙක් පතන්නේ නොවේ. යුධශාව භජනය
කරන්නාවූ බාහුයුගලයාගේ බොහෝකල් උත්සනනාවූ ම
122 නෝරථය දැන් මම පුරවන්නෙමි. මිථ්‍යාචාරයෙහි තත්පර
අනේකරජුන්හා සංසර්ගයෙන් කිලිටිවූ මේ පෘථිවි (කාන්තා
123 ව) සතුරන් සිරුරුලෙහෙඳියෙන් නහවා සඟ්‍රාමයෙන් පවිත්‍ර
කළා ඇසිල්ලෙකින් පාණිග්‍රහණය කරන්නෙමි. (ඕතො
124 මෝ) මාවැනි විරයන්ගේ වැජඹීමෙහි එක්සාළාවෙක්වේ.
සැමකල්හි පසමිතුරු අඳුරුකඳුනැසීමෙහි හිරුවැනිවූ මට
125 පෙනෙහෙලෙළකින් සෙඩින් අන් බලයකින් කුමනවැඩෙ
ක්ද? මෙසේ සිතා පසමිතුරුසෙන් නැමති මහමුහුදෙහි
126 පස්වෙනි හිරුමඬලවැනිවූ හෙතෙම යුධාංගනයට ආයේ
ය—පැමිනද නොයෙක් ගඳඹඅගනන්විසින් ගයන
ගී අසමින් ගිරසදනනන්ගෙන් පූර්ගාමිවූයේ රසයද විඳි
මින් සිටියේය.

127 එකල බුන්මහසෙන් පසුව ලුහුබැඳ ආවාවූ මිහිපල් ස
හිතවූ පසමිතුරුසෙන් ඉදිරියට පැරකුම්මහරජනන් මහ
128 ඇමතියෝ දිවගොස් ඩෙබරවැල්නම් ගමදී බිහිසුනුයුද
129 පවත්වා ජයගත්මහසෙන් බුන්කළ ඔව්හු මහ යුද කොට
ලදඅවපහරඇතිවත් බොහෝවූ හටයන් මරා එකල විසිරෙ
130 මින් සියරටට අභිමුඛව නැවත්තෝය. එකල පසමිතුරු මහ

131 සෙන්තොමෝ දියුණුවූ උත්සාහඇතිවිය. එකල්හි ලත්
පහරැති ඔවුන් වෙදුන් කෙරෙහි පත්කොට පලායනනාවූ
මහසෙන් ලීලාවෙන් යුක්තව සිනාපහළ කෙරෙමින් බලා
132 නවත්වා යානාව උසුලනනාවුන්ට නවතින්ට කියනනාවූ
ඇමතියන්ට බැමබිඳුමෙන් කුටිලවූ බැලුම් පහළ කර
133 මින් ඔවුන් නවත්වා යානාව උසුලන්නන් යවා තෙමේ පස
මිතුරු සෙනගට අභිමුඛවූයේ වීරශ්‍රීසඞ්ගම නමැති මඞ්
134 ගලය කරවනුපිණිස දක්‍ෂවූ ඛඞ්ගලතානමැති ද්‍විතීය
135 යුඩමාලකයට යවනු පිණිස මහාවීරතෙම යුදසැණකෙළි
කරණුකැමැත්තේ "මට සිංහලකඩුවක් දෙව" යි ස්වකීය
හස්තායුධ පාලනයකරණ සේවකයාහට කීයේය. නොදන්
136 නාවූ උහුවිසින් ජම්බුද්වීපපාටවනම්වූ කඩුවක් සිංහලකඩු
වෙක කියා ගෙණකල්හි "මේ කඩුව සිංහල පටුඞය ඇත්
137 තක් නොවෙයි ජම්බුද්වීපයෙහි සකලශත්‍රුරාජකුලයන් න
සන්නාවූ මෙය තබා වහා සිංහල පටුඞය ඇත්තක් ගෙ
138 ණෙව" යි කියා බියඑලවන්නාවූ සිංහලපටුඞය ඇති කඩු
වක් ගෙණකල්හි සතුරන්නමැති ඇතුන් බැඳීමෙහි තරු
ණහස්තියෙක්වැනි ගර්‍වසහිතවූ ඒ රජතෙම "මා අත ආයුධ
ගන්වන්ටවත් සමර්ථයෙක් සිංහලද්වීපයෙහි නැතැ" යි නි
139 යමකොට සිතා තමන්වෙත සිටි රක්ඛනම් කෙශධාතු නාය
140 කාමාත්‍යයාගේද නාථනගරගිරිනම් අමාත්‍යයාගේද මුහුණ
බැලූයේය. ඒ දෙදෙනම එකල්හි මහරජානන්ගේ ඉඟි දැන
141 සිංහසමාන පරාක්‍රම ඇත්තාහු මහසෙන්මැදට වන්හ. යු
ඩාභිගනමධ්‍යගතවූ අසමාන වික්‍රම ඇත්තාවූ ඒ දෙදෙන
142 පසමිතුරුසේනාවට දහස්ගණන්ව වැටහුනෝ කඩුපහ
රින් දෙබෑකරණලද සතුරුසිරුරෙන් බිය එලවන්නාවූ
මහයුද දහවල්පටන් රෑ වෙනතෙක් පැවැත්වූහ.

143 ඉක්බිත්තෙන් මහාමාත්‍යයෝ බඳිනලද ඇඳිලි ඇතිව
"නරශ්‍රෙෂ්ඨයන්වහන්ස සියලු මහසෙන් බිඳීගියාය. අපි
144 කීපදෙනෙක් සිටියම්හ මෙපමණක්විත් මහයුද කරන්න
145 මෝ වීරශ්‍රිය පරාඞ්මුඛ නොකෙළෙමු යුඩදර්‍ශනයෙන් බිය
පත්වූසෙයින් සූර්‍ය්‍යතෙම අස්තපර්‍වතයෙහි සැඟවින. පො
146 ළොන්නරුවට ගොස් (හිඳ) පහන්වූකල ශත්‍රුමර්‍දනය කර
න්නෙමු මේ සඞ්ග්‍රාමයට අකල්ය" යි මහරජානන්ට සැල
147 කළාහුය. රජතෙමේ ඒ විධිය අසා රාත්‍රිය එහිම ගෙවා ප
148 හන්වූ කල යුදපටන්ගණුකැමති බැවින් නොපිළිගත.
එකල්හි බියරහිතවූ රජතෙම මොහොතක්කල් නිද්‍රොපගත
149 විය. මේ අතර අමාත්‍යයෝ ඒ මහරජානන් පොළොන්

නරුවට ගෙණ ගියහ. ඉක්බිත්තෙන් මධ්‍යමරාෂ්ට්‍රයෙහි පච
150 විහාරයට පැමිනිකල්හි පිබිදියාවූ ඒ රජතෙම “මේ ස්ථානය කිනම්ද” යි (උසුලායන්නන්) විචාළේය. නරශ්‍රෙෂ්ඨතෙමේ ඔවුන් අතින් “පස්වෙහෙරය” යි අසා නිද්‍රොපගතවූ මා මෙහි ගෙණ එන්නාවූ තොපවිසින් කරණලද්දේ අයුක්තය” යි
151 කිපී පිරිවරින් එකෙකුදු අවශෙෂ නොකොට ගෙණයනු
152 කැමතිව එහි සිටියේ පචමහාශබ්දයෙන්හා ශබ්ධයන්ගේ
153 නාදයෙන් ගම ආකුලකොට තමන්ම ආවාවූ පිරිවර පරීක්‍ෂා කොට පිරිවර පෙරටු කොට තෙමේ පසුව් අළුයම්සමීප කාල යෙහි පොළොන්නරුවට සම්ප්‍රාපතවූයේය.

154 ඉක්බිත්තෙන් බිල්නම්තොට මහසෙන්විසින් පෙරටුකරණලද දේවසේනානායකය කීර්ති අධිකාරිය යන දෙදෙන,
155 ඒ දෙසින් ආවාවූ නාථ අධිකාරිය මිහිඳුකුමාරය සුබසේනා
156 පතිය නාථලඩ්කාගිරිය යනාදී සෙන් සහිතව යුද්‍දපත්වූවන්
157 සමග නිරන්තර ශරවර්‍ෂා වස්වා බොහෝවූ යෝධයන්හා සුබ
158 සේනානායකයන්ද එසේම නාථලඞ්කාගිරිනම් අමාත්‍යයාද ජීවිතක්‍ෂයට පමුනුවා ඉක්බිති සෙනග සහිතව පලායන්
159 නාවූ නාථඅධිකාරීන්ද මිහිඳු කුමාරයන්ද පසුපස්සෙහි ලුහු බැඳ ඔවුන් රටමැද වන්කල්හි “රටවැස්සන් සහිතවූ
160 සියලු පසම්තුරු සේනාතොමෝ හාත්පසින් මාර්ගය දුර්ගම කොට වටලා ගත්තෑ” යි ශත්‍රුමර්‍දනකාරීවූ එකවික්‍රම
161 යෙන් මඩනාලද පොළෝතල ඇත්තාවූ පරාක්‍රමබාහු නරෙශ්වරතෙම ක්‍ෂත්‍රියවංශයට ශ්‍රෙෂ්ඨවූ සූර්‍ය්‍යෝදවූ කල් හි අසා බලාත්කාරය එකරසකොට ඇත්තේ එකල්හි
162 ඔවුන් මුදුගන්නාපිණිස යන්ට ආරම්භ කෙළේය—එ කල්හි එහි සිටි මහාමාත්‍යයෝ යුධයෙහි හටගත් උත්සාහ
163 ඇත්තාවූ මහිපාලයන් නවත්වනුපිණිස දෙහොත් මුදුන් දී “නරෙශ්වරයන්වහන්ස නුඹවහන්සේගේ ඉක්මවිය නොහැක්කාවූ තෙජෙවිශෙෂය හැර අන්‍යවූ කිසිබලයක් අපට
164 නැත්තේය සියලු රටවැස්සෝද පසම්තුරන් වසඟවූහ. මෙතැනින් නැඳමුල්නම් ස්ථානයට ගොස් ඉක්බිත්තෙන් යුධ
165 කරණුපිණිස යාසුතුය (කියා) මේ ආදී ව්‍යාජවචනයෙන් නරෙශ්වරයන් නවත්වා එතැනින් නික්ම නරෙන්‍ද්‍රයන් සහිතවූවෝ මගට පිළිපන්හ,

166 නැඳමුල්නම් ස්ථානය සමීපයෙහි සිටි රටවැසිවූ පිරිස්තොමෝ එනනාවූ ස්වල්පවූ පිරිවර ඇති භූපාලයන් දැක හාත්පසි
167 න් ශරවර්‍ෂා වස්වන්ට පටන් ගත්තිය. ඉක්බිත්තෙන් මිහිපල්

තෙමේ කරවාළගිරිනම් ස්ථානයෙහි සිට වීරයසි සම්මතවූ
168 ඇමතියන් තිපදෙනෙක් එතැනින් යවා ඒ සෙනගද යුඩා
ශාරහිත කරවා පිරිවර පෙරටුකොට තෙමේ පසුව යෙමින්
169 මහාවීරවූ මහීපාලතෙම දඹකොළනම් ස්ථානයට සම්
170 ප්‍රාප්ත වූයේය. එතැනින් නික්ම දෙවනම් සේනාපතීන් මුදූ
ගනනාපිණ්ස වඩනේ නවගමුපුරනම් ස්ථානයට සම්ප්‍රාප්ත
171 වූයේය. එකල්හි දෙවසේනාපතිතෙමේද කිත්තිනම් අධි
කාරිතෙමේද මහරජනන්විසින් වදාරණලද්දාවූ උපදෙස්
172 වරදවා සෙන්සමග කලානනවූවෝ තමන්ම ඒ යුඩය හැර
සුරුඑනම්ගම පසම්තුරන් වසඟබවට පත්ව තමන් රක්
173 නාපිණ්ස මහීපාලයන් පැමිනෙන්නා දැන නවතනු කැ
මති සිත්ඇතිව මේ (මතුකියන) පරිද්දෙන් හස්නක් යැවූහ.

174 "අපි මෙහි මහරට මැද පසම්තුරන් වසඟවූවම්හ, ස්වා
මීන්ගේද වික්‍රමවිශෙෂය විනා බලසෙන් නැත්තේය. පරාඞ
175 මුඛවූ රටවැස්සෝද වෛරීන් පක්‍ෂවූහ. අත්‍යන්‍යොාදාර
176 තෙජස්ඇත්තාවූ ස්වාමීන් (ජීවමානව) වැඩසිටිකල සාගරය
කුණ්ඩලාභරණකොට ඇත්තාවූ පොළොව එකසත් කොට
177 ලොකශාසනාභිවෘඩ් විධානයෙහි සැකනැත්තේයි. තුඹ
වහන්සේගේ පාදපද්මදශීනාස්ථාදයට හෙතුවූ එබඳු භා
178 ග්‍යයක් අපකෙරෙහි ඇත්තේනම් ඒ අපි මිදෙන්නෙමු (බ්‍රා
හ්මණාදී) වංශයන්ද ශ්‍රමණයන්ද පාලනය කරන්නාවූ තුඹ
වහන්සේලා මෙහි පැමිනෙන්නාවූ නිඝ්ඩයෙන් විරතව
නවතිත්වා" සි.

179 දීඝ්දර්ශී මහාප්‍රාඥවූ මහරජතෙම ඒ අසා එහි තමන්යා
මෙන් පළමු (වනනාවූ) විනාසය දැන දෙහොත් මුදුන්
180 කළ සියලුම ඇමතියන් විසින් යාඩ්ඤාකරණලද්දේ නැවතී
වික්‍රමනම් පුරයට ප්‍රාපතවූයේය.

181 එකල්හි "සමගිවූ සෙන්ඇති මාණාභරණනම් මිහිපති
182 තෙම පොළොන්නරුවට අවුත් නැවත එතැනින් නික්ම
ගිරිතළානම් ස්ථානයට සම්ප්‍රාපතවූයේය. යනාමේ ආදිවූ
183 වෘත්තාන්තය නත්වූපරිද්දේන් මහාමාත්‍යයෝ දැන එය ඇසූ
පරිද්දෙන් තත්වය රජහට සැලකොට ඒ ඒ තැන මහයු
184 දෙහි සේනානට බවද සැලකොට "ඉක්බිත්තෙන් පැර
කුම්නුවරටහෝ කැළණිගමටහෝ පැමින සෙනග සමගි
185 කොට නැවත යුදකරණට වටනේය" සි සැලකළහ. රාජ
මෘගෙන්‍ද්‍රතෙම ඒ අසා බැමබිඳපියන පමන දුම්න් දත
186 යුතුවූ කොපාග්නි ඇතිබැවින් "යම්කෙනෙක් බියපත්
වූද ඔවුන්ගෙන් අපට ප්‍රයෝජනයක් නැත්තේය. ඔව්හු

වනාහි රිසීසේ යෙත්වා, මා වැන්නෝ බාහුවෙන් මඩනා
187 ලද මහාසේනා ඇතෝතාස. මා සිටිකල මාගේ රාජ්‍ය
සීමාව පැනඑන්ට තුන්ලොවෙහි ශක්‍රයා ආදීකොට සමර්ථ
188 යෙක් නොදකිමි, සිංහයෙකුවිසින් අධිපතිව රක්නාලද ගු
හාවට වදනට හස්තිරාජයෙක් සමර්ථනොවන පරිද්දෙන්
189 මා විසින් අධිෂ්ඨිතවූ රාජ්‍යයට පැමිනෙන්ට සමර්ථවූ පසමි
තුරු රජෙක් නැත්තේය. මාගේ දෘෂ්ටිපාතයෙන් කවරෙක්
190 නම් විර නොවේද? මා කැමති කල්හි කිරිබොනදරු
වෝද යුදකෙරෙති දෙතුන්මසකින්ම මාණාභරණ මිහිපල්
191 හු රජරට තබා සියරටද ඉන්ට නොදෙමි සියල්ලෙන් ශූන්‍යවූ
192 මෙබඳු තන්හි මාවැනි වීරපුරුෂයන්ගේ බාහුවික්‍රමසම්පත්
තොමෝ දෘශ්‍යමානවේ" හේතෙමේ මෙපරිද්දෙන් වීරරස
යෙන් යුක්තවූ අහඞ්කාරසහිතවූ වචනපහළකෙරෙමින් උත්
193 සාහ රහිතවූ ඔවුන් මහොත්සාහ ඇතිකොට ඉක්බිත්තෙන්
ක්‍රමදක්ෂවූයේ රක්ඛනම් අධිකාරීහු ආදි පූස්තකීනම් සාමන්ත
194 යාද මගලබනම් ගමසිටිනා පිණිස යැවූයේය. විධිදන්නේ
මහායසස් ඇත්තේ තනතුරුලැබීමට යෝග්‍යවූවන්ට තන
195 තුරු දී ඉක්බිති රක්ඛනම්වූ මහාලෙඛාමාත්‍යය මඤ්ජීවිත පූ
ස්තකීඅමාත්‍යය සබ්බධාතුය කිත්තිය යන දණ්ඩනායකාමා
196 ත්‍යවූ සහෝදර දෙදෙනාය යනමොවුන්ට මහසෙන්දී කළා
වැවහා එකාබද්ධවූ මහාජනපදයන්ගනනාපිණිස පිලවිටියට
197 යැවූයේය ...... එසේම මහත්බලහා අත්‍යුදාර පරාක්‍රම ඇත්
තේ මාරගිරින්‍යග්‍රොධනම් ඇමතියාද සේනාසමග උඩවැව්
198 හි තැබූයේය. මෙසේ නොයෙක් දෙසින් මහයුද පවත්
වනපිණිස සාමන්තයන් සහිතවූ මහසේනාව යෙදූයේය.
199 එකල්හි මාණාභරණනරේන්ද්‍රයන් නියෝගයෙන් දනව්නම්
ස්ථානයෙහි යුදකරණපිණිස ආවාවූ මඤ්ජිනම් මහාලෙඛක
200 යන් ඒ දනව්වෙහි සිටියාවූ යුධක්‍රීඩායෙහි බියරහිතවූ සේනා
තොමෝ යුදකොට අනාගත යුධයෙහි හීනනාවූ උත්සාහ
201 ඇතිකොට පලාපීය. ඒ සේනාතොමෝ සතතයෙන් පවත්
වනලද නොයෙක් මහාකල්‍යාණ කර්මරාශි ඇති දෙව්
202 රජහු සෙයින් නොයෙක් ක්‍රීඩාවිනොදනය විඳිමින් නාළ
න්දෑවෙහි වාසයකරන්නාවූ පරාක්‍රමබාහු නරේන්ද්‍රයන්ට
එපවත් තත්වූ පරිද්දෙන් කියා යැවීය.

203 ඉක්බිත්තෙන් පිලවිටියෙහි සිටුවනලද්දාවූ රක්ඛනම් මහා
ලෙඛකයන් ප්‍රමුඛකොට ඇත්තාවූ සාමන්තාධිපතිහුද කළා
204 වැව විසූ බුද්ධනාථමහාලානදෙවනම් සේනාපතියා කෙරෙහි
(විරුද්ධව) අටදීනක් ඉතාබිහිසුනුවූ යුදපවත්වා එකෙණෙහි

205 බොහෝවූ යෝධයන් මරා බොහෝ යෝධයන් පලවා ව
හාම කළාවැව නිෂ්කණ්ටක කොට අත්පත්කොට ගෙණ ප
206 රාක්‍රමබාහු නරනිඳුහුගේ නියෝගය අනුව ක්‍රියාකෙරෙමින්
එහිම බලකොටුවක් කොට විසූහ..... උඩුවැව යොදන
207 ලද්දාවූ න්‍යග්‍රොධමාරගිරිනම් අමාත්‍යතෙම තුන්වරක් යුද
208 කොට සතුරුසෙන් බිඳ තනානරුයයි ප්‍රසිද්ධවූ ගම ආරාමයක්
බලකොටුකොට මහරජානන් නියෝගයෙන් සෙන් සමග
හුන්නේය.

209 මාණාභරණ මහීපාලතෙම එකල්හි මිහිඳුකුමරහට තන
210 තුරුද බොහෝවූ රටද දී "තෙපි මහසෙන් ඇතිව මො
නර වැව්රටට අභිමුඛව ගොස් දකුණුපස ගන්නාපිණිස
211 අනුරාධ පුරවරයෙහි හිඳුව, මමද බුද්ගමුවට අභිමුඛව
212 යනුපිණිස දළුවලට යෙමි" යි කියා මහසෙන්දී පළමුකොට
213 උහු රම්‍යවූ අනුරාපුරයට යවා නැවත තෙමේ එහි රජ
214 රටම හුන්නේය. මිහිඳුකුමරහු මහසෙන් සමග අනුරාපු
රය බලාගියබැවි කළාවැව නියුක්තවූ මහරජානන්ගේ මහා
215 මාත්‍යයෝ අසා මුල්හටගණු නොදී පළමුකොටම නිර්මූල
නයපිණිස එහි රක්ඛනම් මහාලෙඛකයන්ද කීර්තිභණ්ඩාර
216 පුස්තකී අමාත්‍යයන්ද රක්‍ෂාවෙහි යොදා ඔව්හු සෛවරීව
බලවාහන සහිතව කළාවැවින් නික්ම කාණමූලනම්වූ ස්ථා
217 නයට ගොස් බලකොටු බැඳ කැටිව උන්හ. නොබිඳිය
හැකි උපායෙහි දක්‍ෂවූ පරීක්‍ෂාකාරිවූ පැරකුම්බාමහරජ
218 තෙම ඒ විධාන අසා පරීක්‍ෂාකොට "දෙශවිශෙෂ දැනීමෙහි
අදක්‍ෂවූ තෙපි මාගේ අවවාදයෙන් තොරව රටමැද වැද
219 යුදකරණට නොයව්" කියා මෙපරිද්දෙන් දීර්ඝදර්ශී මහා
220 ප්‍රාඥවූයේ ශක්‍රයාගේ මෙන් හසුන්ඇත්තේ ඔවුන්ට හස්
නක් යැවූයේය. එහි සුහුසුළුවූ දුර්බුද්ධිවූ ඔව්හු රජහුගේ ඒ
221 හස්න වරදවා අනුරාපුරය වහා ගණුම්හයි (ගියහ). නරෙන්ද්‍ර
යන්ගේ ඒ හසුන් පිළිබඳ ප්‍රයොජනය තමන් නොලබන්
222 නාවූ ඔවුන්අතුරෙන් කාරණයෙහි දක්‍ෂනොවූ පින්මදජන
යෝ කටුවන්දුනම්න් ප්‍රසිද්ධවූ ස්ථානයට උපායරහිතව නරෙ
න්ද්‍රයන්ගේ හස්නපැනීමෙහි ඵලය විඳිනු කැමැත්තන්සේ
223 පැමිනියෝය. මහරටමැද ඒ ඒ තන්හි දුෂ්චරිතකාරීවූ එහි පි
224 විසි ඔවුන්ගේ පිරිස විනීණ්විය..... ඉක්බිත්තෙන් මහිඳුනම්
කුමාරතෙම ඒ විධානය දැන (මන්ත්‍රින්හා) මන්ත්‍රණයකොට
සෙන් පිරිවරා ඔවුන්හා යුදකරණට පටන්ගත්තේය.

225 එහි සේනා සාමාග්‍රිය විකලවූ බැවින් මහිඳුනම් කුමාර
226 තෙම යුද්ධාඟනයෙහි ඒ සියලු සේනාව බිඳ හැරියේය. ඒ

යුඬයෙහි බිඳුනාවූ ඒ සාමන්තයෝ වරදවනලද මිහිපල්
227 සස්න සිහිකරන්නන්මෙන් නැවත කළාවැවට ආවෝය.
(මහින්දනම්) කුමාරතෙමේද නැවත අනුරාධපුරයට පෙරළා
228 ගොස් මහාබල ඇත්තේ කළාවැව ගනානාකැමැත්තේ වහා
ම සියරටවැසි සෙනග රැස්කොට යැවිය. මහත් ප්‍රඥඇත්
229 තාවූ පෘථිවීශ්වරතෙම එපවත් අසා යුඬුවම වීරාභාස්වරූපවූ
බොහෝවූ සෙන්සමගිකොට භූතභාණ්ඩාරපූස්ත නාම අමාත්‍ය
230 යා එහි යැවීයේය. ඒ සියලු වීරයෝ රැස්ව අතිශයින් ද
රුණුවූ යුඬය තුන්මසක් මුළුල්ලෙහි දවසක් දවසක් පා
231 සා පැවැතවූහ, චතුරවූ ඔව්හු නරෙන්ද්‍රයන්අණ දූෂ්‍ය
නොකෙරෙමින් රළුයුද පවත්වන්නාහු මහෙන්ද්‍රකුමාර
232 යාගේ චතුරඞ්ගිනිසේනාව බින්දහ. ඒකාබඬවූ මහරට
233 ගෙණ රජහුගේ අවවාද පුදමින් එහි කළාවැවම උන්හ.
පෙර කියනලද්දාවූ රාජ්‍යාව උල්ලඞ්ඝනය කළවූන් සමග
234 කළාවූ කූටයුඬයෙන් උඬාම්වූ කුමාරයා තෙමේම සනන
ඛව යුඬයට ආයේය. මොනරවැවනම් ස්ථානයෙහි යොදන
ලද්දාවූ එක් සාමන්තයෙක්තෙම දිඪිදර්ශිවූ නරෙන්ද්‍රයන්
235 අණ බැහැර නොකෙරෙමින් ස්වකීයවූ පිරිස මගදෙපස
යොදා අවශෙෂනොව ඇතුළට පිවිසියාවූ පසම්තුරුසෙන්
236 සමග හාත්පසින් වටලා භයානකවූ යුඬකරන්නේ බොහෝ
237 වූ සාමන්තාධිපතීන් ජීවිතක්ෂයට පමුනුවා කුමාරයාද පල
වා යුඬාගනයෙහි මරණලද්දාවූ සතුරන්ගේ බෝහෝවූ හිස්
නරෙන්ද්‍රයන් කරා යැවීය.

238 ඉක්බිත්තෙන් (සතුරන්) බිය එලවනපරාක්‍රම ඇත්තාවූ
ඒ පරාක්‍රමබාහු නරෙන්ද්‍රතෙම ඒ ඒ තැන යොදනලද සෙ
239 නාග රැස්කරවා මාණාභරණමහිපාලයන් රජරටින් පලවා
හරිණුපිණිස රකඛනම්වූ මහාලෙඛකයින්ද අජනනම්කම්
240 නායකයන්ද කානනගම යොදා කීර්තිපුස්තකී අමාත්‍යයන්ද
241 රකඛනම් අධිකාරීන්ද මගලබනම් ගමට යවා වනපර්තදුගී
යෙහි රාත්‍රිසචාරයෙහි දක්‍ෂවූ වැදිසොර පිරිසක්ද යවා ඒ
242 ඒ තැන මහජනයන් රෑදෙවෙහි මරවමින් මැදිරියෙහි
බඳනාලද පක්ෂීන්මෙන් පොළොන්නරුවැස්සෝ බොහෝ
243 කල් දහවල්ද සියගෙයින් දොරට නික්මෙනු නොහැකිව
දිය දර රැස්කරණු කැමැත්තෝ දරින් කටයුතු සිදුකරණු
244 පිණිස සියලල ත්‍යාතරහිතකොට යම්සේ ස්වකීය ස්ථානීයවූ
245 ගෙය නිරවශෙෂකොට සර්වප්‍රකාරයෙන් නසඳ යම්සේත්
නගර සීමාන්තයෙහි ඒ ඒ තැන ආපණයන්හි නානාප්‍රකා
246 රවූ වෙළඳම් සර්වප්‍රකාරයෙන් සුන්වෙද්ද, පූරයට ප්‍රවිෂ්ට

වන මාර්ගයෙහි නරේන්‍ද්‍රයන්ගේ නිරන්තරබද්ධවූ කො
247 ලාහලය උපන්කල්හි යම්සේ මුළුනුවර කම්පිත වේද, එ
පරිද්දෙන් රාජගනයදක්වා නගරය උපද්‍රවයෙන් යුක්ත
කොට මානාභරණරජහට මහත්වූ පීඩා කෙළේය.

248 ඉක්බිති දැඩියේ උපද්‍රවඇතිවූ ඒ මානාභරණනරේන්‍ද්‍ර
තෙම සිනිවිලෙලන් පීඩිතවූ හෘදයඇත්තේ "අද්‍යෝමය ; ඉ
249 දින් අපි රුහුණු (රට) බලා යන්නෙමුනම් එහි සිටි රජරට
250 වැස්සෝ පලායන්නාවූ අප දුබලබැව් දැන පරාක්‍රමබාහු භූ
පාලයන්ට පක්ෂපාතභාවය දක්වනුපිණිස අපට එහි යාමට
251 (අවකාස) නොදෙන්නාහුය, ඉදින් මෙහිම වසන්ට යුතු
යයි (සිතන්නෙමුද) දිවාරෑ මෙබඳු දුක් ඉවසන්නාවූ අපට
252 ගෙද දුෂ්කර වන්නේය, පසම්තුරන්ගා බිහිසුණු යුදපවත්
වාම එයින් ලත් ඒ සැපහෝ දුකහෝ අනුභවකරන්ට අපට
253 යුතුවන්නේය" යි මෙපරිද්දෙන් දැඩිහොට සිතීය——තේ
තෙමේ සඩිතීයවූ මහත් චතුරඩ්ගිනිසෙනාව සන්නාහකොට
යුඩපිණිස බඳනාලද කැසපට ඇත්තේ අලුවලට ගියේය.
254 ඉක්බිත්තෙන් සිංහපරාක්‍රමඇත්තාවූ විශෙෂ කටයුතු කාරණ
සම්භාවඇත්තාවූ මහාප්‍රාඥවූ පරාක්‍රමබාහු නරෙශ්වරතෙමේ
255 ඒ සියලු පිළිවෙළ අසා ලඩ්කාපුරනම් අමාත්‍යයාද දණ්ඩ
නායක සහෝදරදෙදෙනද ලොකගලලනම් අමාත්‍යයාද
256 බෝහොවූ යුඩොපාය උගන්වා ඒ දෙසින් සම්ප්‍රාප්තවූ ශත්‍රු
සෙනාව පරාඞ්මුඛකරණු කැමැත්තේ තුන්දෙසින් යැවූ
257 යේය. මහත්බලවත්වූ ඔව්හු එහි ගොස් දවසක් දවසක්
පාසා උදාරතරවූ යුද පවත්වමින් මාසයක් ගෙවූහ.

258 ඉක්බිත්තෙන් ඊට දියුණක් බෙදයට පත්වූ මානාභරණ
259 නරේන්‍ද්‍රතෙම "අපි යුඩාජීව කඳවුර හැර ආවෙමු ඒ මෙ
තන්හි අපට අස්වැසීමෙක් නැත්තේය, අපගේ බඳමුල්ඇත්
260 තාවූ දුකමච්කානානයෙන් දිවාරෑ නැවත නැවත වැඩීමටයේ.
ඒ වෙනෙහි පැමිනි සැපහෝ දුකහෝ අනුභව නොකොට
261 මෙහි පැමිනි (අපට) ඉවසිය නොහැකි මෙබඳුවූ දුක යුත්
තේමය. නැවත එහිම හෝ යෙමුද, එද දැන් ඉතා උගහටය
262 ඒ ඒ තැන මහමග ශත්‍රූන්ගේ මහසෙන් සිටිත්ම අතිශ
263 යින් ගැහැටවූ මෙතන්හි වාසයකරන්ට යුතුනොවේ. ඔබ
මොබින් ප්‍රවිෂ්ටවූ ශත්‍රුසෙනා මධ්‍යයෙන් මෙහි බෙහෙවින්
264 පුරුදුවූ මිනිසුන් විචාරණය කොට ඔවුන්විසින් දක්වනලද්
දාවූ කිසියම් අප්‍රසිඩමාර්ගයෙකින් යන්නෙමි" යි සිතා රටවැස්
සන් පිළිවිස ඔවුන්විසින් දක්වනලද මගින් කෝඳුරුවා
265 නම් ගමට ගියේය. ඉක්බිත්තෙන් රක්ඛනම් අධිකාරීතෙ

මේද මහරජානන් අනුශාසනාව බුහුමන්කරන්නේ මිහිරණ
266 බිබිලනම්ගම වෙසෙමින් ඇතුන්විසිනුදු සෙල්විය නොහැ
කිවූ හිඳිපාලාග්‍ර සමානවූ කණු එහිනොක සම්බන්ධකොට
267 බිම කැණ සිටුවා ඉන් බැහැර ප්‍රමාණයෙන් ඊට අධිකවූ
268 යෂ්ටිවෙෂ්ටනයෙන් වෙළනලද්දවූ මහකණු සිදුරු රහිත
කොට සිටුවා යලිත් ඒ කණු (දෙවැට) මැද හාත්පස විසිනිස්
269 රියන් පුළුල්වූ ශතපුරුෂප්‍රමාණ ඇල කණවා, එහි තියුණු
උල්හා කටු අතුට ඉන් බැහැර පෙදෙස ශූලපාදයන් සි
270 ටුවා ඒහා බඩසිදුරුරහිතවූ කටුවැටකොට ඒ මැදද පෙර
271 පරිද්දෙන් අගල කණවා එහිදු හුල්පාහා කටු අතුරුවා වැ
272 ටෙන් පිටද ජලාන්තකොට අගල කණවා එහිද තියුණු උල්
273 හා කටු අතුට ඇලෙන් පිටත ශරපාතදෙකක් තුණක් පමණ
274 තැන එකහෙලා මහවනය සිඳුවා ඉන් පිට චෞරමාගීයන්හි
275 මහා ආවාටයන් කැණ එහි අතුරුනැතිසේ තියුණු කටු අතුට
ඒ ආවාටයන් හාත්පස වැලිහා පූරණප[illegible]යෙන් වස්වා
බලන්නවුන්ට යායුතුවූ මාගීසමානකරවා ඒ මග පැමිනි පස
276 මිතුරුසෙන් නිරවශෙෂකොට නස්වනුවිණිස හාත්පස සොර
277 මං කරවා ඒ මාගීයන්හි තීක්ෂණවෙධිවූ ධනුර්ධරයන් යොදවා
278 දුගීයමැද සිවුමහල් පහයක් කරවා ඒ මතුයෙහි ඒ ඒ තන්හි
ධනුර්ධරයන් යොදවා ඉක්බිති පසමිතුරුයෙන් අසළපත්කර
279 ණු පිණිස දුනුහා තීක්ෂණවෙධීවූ ධනුර්ධරයන් දෙතුන්දහසක්
යවා සම්ප්‍රාප්තවූ නොවැලක්වියහැකි කුරිරු පසමිතුරුසෙන්
280 සබඳ වස්නාවූ ශරවර්ෂයෙන් බුත්ආකාරයෙන් මිථ්‍යාප්‍රයොග
දක්වා නැවැතියන් පසුපස්සෙහි ලුහුබැඳ යම්තැනෙක
281 (සතුරුසෙන්) ලගට පැමිනියාද (එතන්හි) යුද්ධක්‍රීඩායෙහි
දක්ෂ වීරවූ දහස්ගණන් සමත් යෝධයෝ සන්නාද්ධව වෙන්
282 වෙන් වසයෙන් ඇතුන්සේ පසමිතුරුසෙන් ඉදිරියට ධාව
නය කළාහු යමරජහුසේනාව දෘශ්‍යමානවූසේ යුද්ධය පැ
283 වැත්වූහ———එකල හාත්පස ශරවර්ෂාද වස්නට පටන්
ගත. පහමතුයෙහි සිටි ඔව්හු බිමසිටියවුන් විදිනට උප
ක්‍රම කළහ.
284 යන්ත්‍රමුක්තවූ ඔබමොබ පැතිරයන්නාවූ ප්‍රමාණතික්‍රාන්ත
285 පාෂාණයන්ගේ විජෘම්භණයද පැවැත්තේය. කඩ කඩ
කොට කපා (ගින්නෙන්) උද්දීප්තකොට (අහසින්) හරණ
ලද උණ්දඩුකඩසබඳවූ අතිශයින් නොසිවසියහැකි දැහ
286 යද පැවැත්තේය. යදමින් බඳනාලද උද්දීප්තවූ බොහෝවූ
යකුලින්ද අදීමින් කෲරවූ ක්‍රියාවක් සතියක් පැවැත්වූහ. මෙ
287 සේ ඒ මහරජානන්ගේ මහපැණැති මහඇමතියෝ රජහු

නියෝග පරිද්දෙන් යුද්ධය මනාකොට පැවැත්වූහ. එකෙ
288 ණෙහි මුහුදුවෙරල වැද බිඳෙන රළමාලාසෙයින් රජසහිත
289 පසමිතුරුසෙන් බිඳින------එකල්හි අරුණොදනමන කාල
යෙහි චන්ද්‍රයාහා තාරකාවන්සෙයින් මිහිපල්සහිතවූ ඒ සේ
නා තොමෝ (පරාජය ප්‍රාප්තව) ම්ලානවිය.

290 ඉක්බිත්තෙන් රිදීකොත සමසක් මුළුල්ලෙහි දවසක්
පාසා (කරණලද) භයානක යුද්ධයෙහි ශත්‍රුසේනාව දුර්වල
291 කළහ. ඒ මාණාභරණ මහිපාලතෙම බහිර්ජාගසහිතවූ දුර්ගී
292 යක් හටුඅතුට කරවන්ට ආරම්භකෙළේය. ඉක්බිත්තෙන්
උදාරප්‍රඥාඇත්තාවූ නිලෝත්පලවැනි නෙත්‍රඇති පඩිතවූ
293 පරාක්‍රමබාහුනරෙශ්වරතෙම ඒ ක්‍රමය සකසා අසා “ඉදින්
හෙතෙම දුර්ගයක් පිහිටුවින්ට ආරම්භකරන්නේනම් මේ
294 තෙමේ උපායෙකැයි” චින්තාවෙහි දක්‍ෂවූයේ මෙසේ සිතූ
යේය. “සෙනාගහිනාථයේ යන්ට නික්මුනේ මයයි හඟිමි,
ඒ මාණාභරණයා ග්‍රහණය කරන්ට ඒකාන්තයෙන් මේ කල්
වන්නේය මා විසිනුදු එහි යායුතුය. යන්නාහු විසින්ද සම්සේ
295 ශෙනෙම දැන නොගන්නේද එසේ යන්ට වටනේය, එපරිද්
දෙන් නොවන්නේනම් පලායන්නේය”.

296 මෙසේ නිශ්චය කොට මුවදඩයනු කැමැත්තක්හුසේ එක්
297 වනජයක් දක්වා වික්‍රමපුරයෙන් නික්ම නොයෙක් දක්‍ෂවූ
ගන්ධර්වයන්විසින් පෙරටු කරණලද්දේ කණ්ඩනගමට පැමින
298 වීණා වස්දඩු වාදනයන්හා ගීතිකාවන්හි රසඳන්නේ ප්‍රා
ඥවූ මහීපාලතෙම ශක්‍රයාසේ එහිම වෙසෙමින් “ වහා සෙ
299 නා සන්නද්ධකොටගෙණ මාණාභරණ රජහුගේ බුද්ධනායක
නම් (ඇමතියා) සමග යුද්ධසෑණකෙළි පවත්වන්ට” (කියා)
300 රක්ඛනම් අධිකාරීන්කරා හස්නක් යැවීයේය. මහරජානන්
කිවක්කරන්නාවූ මහනුවනැති අධිකාරීතෙම කියායවන
301 ලද ඒ සියල්ල අසා ඉක්බිත්තෙන් පසමිතුරු පුළුන් පිඹහැරී
මෙහි උත්පාතවාත සමාන යුද්ධදක්‍ෂවූ සෙනා හරහා එකෙ
302 ණෙහි යැවීය. ඒ චතුරඞ්ගිනි සේනාතොමෝ රිදීකොතට
පැමින හිරු ඇනාඩිගතවනතෙක් දරුණු යුදපවත්වා බුද්ධ
303 නාථාදී සාමන්තයන් මරා අවශෙෂවූ සේනාව පලවා රු එහි
304 ම වාසය කළාය. චතුරවිචක්‍ෂණවූ පරාක්‍රමබාහුමහරජතෙම
305 එපවත් අසා මිහිරණබිබිලිනම්වූ ගමට ගොස් අතිශයින් උ
දාර පරාක්‍රමාන්විතවූ කඩක්කුඩනම් ඇමතියාද ලඞ්කාපුරනම්
306 ඇමතියාද යලිත් දණ්ඩනායක දෙබෑයන්ද කැඳවා “ඒමා
ණාභරණරජතෙමේ මහබියෙන් මැඩපැවතිසින් ඇත්තේ
307 නියමයෙන්ම අද රු පලායන්නේය· තෙපි පෙරටුව උහු

308 පලායන මාර්ගයට ගොස් අවුරව් " කියා පිටත්කෙළේය—
ගල ගල යන අනුකරණපවත්වනනාවූ මෙඝය නිරතුරුව
309 වසිත්ම ඝෘෂණරාත්‍රියෙහි ඝනාන්ධකාරය පවත්නාකල්හි
යන්නාවූ ඔව්හු, බියෙන් පීඩිතව පලායන්නාවූ ඒ මාණා
භරණ නරේන්ද්‍රයන්කරා මාර්ගයෙහි පැමිනෙන්ට නො
පොහොසත්වූහ.

310 ඒ මාණාභරණමහීපාලතෙමේ එකල්හි මෙසේ සිතුයේය.
" අද පසම්තුරු සෙන්වසන දුර්ගයෙහි මහාසමුද්‍රචලනයක්
311 සමානවූ භයානක ශබ්දය ඇසෙන්නේය. ඒ සතුරු රජ
තෙමේ දුර්ගයට සම්ප්‍රාප්ත වූයේයයි හඟිමි ඉදින් බැහැර
312 නොගොස් රාත්‍රියෙහි මෙහිම උනෙනම්නම් (කිසිවෙකුට)
වසගනුවූ මම අවශ්‍යයෙන්ම උහු යටහත්බවට යන්නෙමි
313 සියලු පිරිවරජනයන් අතුරෙන් කිසිවෙකුත් නොදන්වා
මෙතැනින් පහව යන්ට වටනේය " යි භයින් පීඩිතව මෙ
314 සේද සිතා ඝවනිය පුත්‍රයන්ද හැර ඝනවූ වර්ෂාව වසිත්ම
බහලාන්ධකාරය පවත්නා කල්හි විටින් විට ඒ ඒ තැන
315 මහාආවාට යෙහි වැටෙන්නේ වන පඳුරුවල හැපෙමින් නැ
316 වත නැවත උත්‍රසනවෙමින් බියෙන් කැලඹිසිත්ඇත්තේ
මහවැලිගඟට පැමින " ඉදින් මම ප්‍රසිද්ධවූ තොටකින් පලා
317 යන්නෙම්ද පසම්තුරෝ මා ලුහුබැඳ ජීවග්‍රාහයෙන් ගන්නා
හුය " යි සිතා කිසියම් අප්‍රසිද්ධ නොටකින් දුකසේ ගඟ ඉක්
318 මවා එකෙණෙහි ලද අස්වස් ඇත්තේ රටවැසි ජනයා කෙ
319 රෙහිද අතිශයින් සැකඇතිවූයේ මහත් භයඇත්තේ අප්‍ර
සිද්ධවේසයෙන් ගමින් ගමට පැමිනෙමින් පලාගොස් ගති
යෙන් වර්ජිතවූයේ සියරට වන්නේය.

320 ඒ ඒ තන්හි සිටියාවූ පරාක්‍රම මහරජානන් යොධයෝ මා
ණාභරණරජහු පලාගියබැව් දැන සතුටුව වසත්‍ර හිස සිසැ
321 රුම් දහස්ගණන් පවත්වති, හාත්පස විලක්‍ෂු ලක්‍ෂයෙන්
දල්වා යොධයන් නොයෙක් දහස්ගණන් ජීවිතක්‍ෂයට ප
322 මුනුවමින් අත්පොළසන් දිදී නාදකෙරෙමින් හාත්පසින්
323 පනිමින් පැතිරෙමින් ඒ සියල්ලෝ එකාපැහැර මාණා
324 භරණරජහු විසූ මහාදුර්ගයට හාත්පසින් ප්‍රවිෂ්ටව එහි නැ
වති උන් සිරිවල්ලභනම් කුමාරයාහා අනිතුදු මහාමාත්‍යයන්
325 ජීවග්‍රාහයෙන්ගෙණ සතුරු රජහුගේ ඒ ඒ තැන විපුල බො
හෝවූ ධනයද ඇතුන් අසුන්හා ඝනනාහයන්ද බොහෝවූ
326 ආයුධයන්ද ගෙණ ඔවුන්ට යෙදිය යුතු ආරක්‍ෂාද යො
දා ඒ සියල්ලෝම මාණාභරණරජහු ලුහුබඳිමින් ඒක්‍ෂ
327 ණයෙහි මහවැලිගඟවෙත පැමින එහිදු පරිච්ඡේදරහි

328 තවූ වෛරී සේනාව නසා සියල් සතුරුසෙන් මස්ලේගඟක් කොට "මුහුද දක්වා ඝෝ ඝොස් මාණාභරණ භූමිපාලයන් ගෙණ නවතුම්හ අන්පරිද්දෙන් නොනවතුම්හ" යි ස්ථිරවූ
329 සිත් ඇතිව නික්මුනෝය, අතික්‍රමණයකළ නොහැකි හසුන්
330 ඇති පීවරබාහු ඇති පරාක්‍රමබාහුනරෙශ්වරතෙමේ "ගඟ පරතෙර නොයායුතුය" යි කියා හස්නක් යවා ඔවුන් නැවැත්විය.

331 ඉක්බිත්තෙන්(පසමිතුරු)රජුන්දිනූ පරාක්‍රමබාහු නරෙන්ද්‍ර තෙම පලන් සව් බරණඇත්තේ සෙනග පිරිවරණලද්දේ
332 සිරිවලලහනම් කුමාරයාවිසින් පෙරටුකරණලද්දේ අසුර යුඬයෙහි ජයද්‍රාප්තවූ ශක්‍රදෙවේන්ද්‍රයා සුරමන්දිරයට සෙයින්
333 මහාජයඝොෂණයෙන් ඒ ඒ දිගුන් පූරවමින් පුලස්තිපුරනම් රම්‍යවූ පුරයට ප්‍රවිෂ්ටවූයේය.

334 ඉක්බිති ඒ මාණාභරණරජතෙම පරාක්‍රමබාහුමහරජානන් කෙරෙහි බියෙන් හටගන්නාවූ රොගයකින් ආයුපිරි
335 හිමට පැමිනියේ ඉස අත්බැඳ අඬන්නාවූ අන්තඃපුර වැසි ජනයා මැද දුක්පත්ව මරණඅවසන්කොට ඇති ශයන
336 යෙහි හොතෙන්, පසුව කීර්තිශ්‍රීමෙඝනම් කුමාරයාහා අනි
337 කුදු මහාමාත්‍යයන් කැඳවා මේ වචනය කීයේය. "ශ්‍රීදන්
338 ෂ්ට්‍රාධාතුස්වාමින්වහන්සේටද උත්තම පාත්‍රධාතුන්වහන් සේටද ශ්‍රද්ධාඇත්තාවූ කුලපුත්‍රයන්විසින් පුදනලද බොහෝවූ ධනයද අනිකුදු භික්‍ෂුසඞ්ඝයා සන්තකවූ නානාවිධ ග්‍රාමයෝද රාජ්‍යලොභයෙන් අභිභූතවූ මාවිසින් ගන්නාල
339 දූහු නසනලද්දාහුද වෙති, දැ න් මම නැඟිනොසිටිනාසෙ
 යකවෙන් ශයනය කෙළේවෙමි; මළාවූද මට ඒකාන්ත
340 යෙන්ම අපායෙන් මිදිම කොයින්ද? මා මෙන් තෝ නො නැසී පරාක්‍රමබාහුමහරජානන් කරා එළඹ උහුගේ බස් පිළිපදනේ උහුවිසින් කියනලද ක්‍රමයට අනුකූලව වාසය කර
341 ව" යි මෙසේද කියා අත්‍යර්ථයෙන් බැගෑපත්සේ හඬමින්
342 පරාක්‍රමබාහුමහාරජානන්ගේ සමර්ථ යොධයන්ට විෂයනූවූ ප්‍රදෙශයකට යනුකැමැත්තේ සෙයින් යමපුරදුර්ගයට ගියේය.

343 රජනය කරණලද අනන්තසජ්ජනයන්ඇත්තාවූ පරාක්‍රම බාහුමහරජතෙම මාණාභරණභූපාලයා මළබැව් අසා කීර්ති
344 ශ්‍රීමෙඝකුමාරයා එතැනින් ගෙන්වූයේය.—එකල්හි ඒ මහාමාත්‍යයෝ රැස්ව බඳනලද ඇඳිලිඇතිව මෞලිමඬ
345 ගලය කරණපිණිස මහාප්‍රඥඇති නරෙන්ද්‍රයන්ට යාච්ඤා කළෝය.—මහිපතිතෙමේ ප්‍රශස්තවූ නක්‍ෂත්‍රයෙන්හා මුහූර්ත

346 යකින් ශත්‍රු (භය) රහිතවූයේ ප්‍රශස්තවූ මෞලිමඞ්ගලය
පැවැත්වූයේය.

347 එකල්හි නානාප්‍රකාරවූ භෙරීන්ගේ මහාශබ්දයතෙම
කල්පාන්තවාතයෙන් කැලඹී සාගරයාගේ හඬසෙයින් භයා
348 නක විය. ස්වර්ණමය සන්නාහසන්නද්ධවූ ඇතුන් කරණකොට
ගෙණ රාජවීථිතොමෝ විදුලි සහිතවූ මෙඝකූටයන් බටසේ
349 විය. අශ්වයන්ගේ නෘත්‍යයෙන් හටගත් රළඇතිසේවූ ඒ නු
350 වර මුළුල්ල එකල්හි සාගරයසේ ගැවසුනේය. විසිතුරු ඡත්‍ර
මාලාවෙන්හා රන්දදපෙළින් අහස්කුස හාත්පසින් වසන
ලද්දසේ විය. පිළී ගිස සිසෑරුම් පැවැත්තාහ. අසුරුසන්
351 ද පැවැත්තාහ. එකල නුවරවැස්සෝ (බෝකල්) ජීවත්වෙව
ජීවත්වෙවයි ආශීර්වාද පැවැත්වූහ. කෙසෙල් තොරණින්
352 ගැවසුනාවූ පුන්කලස් මාලාවෙන් ගහණවූ සියලු පොළෝ
මඩුල්ල නොයෙක් උත්සවයෙන් යුක්තවිය. අනෙක
ශතසඞ්ඛ්‍යතවූ ස්තුතිපාඨකයන්විසින් කියනලද්දාවූ ස්තුති
353 ගීතයද පැවැත්තේය. කළුවැල් දුමින් ආකාශාඟනය ගැව
සුනේය. හඳනාලද විසිතුරු වත්ඇති නානාවිධාභරණ
354 යෙන් විභූෂිතවූ නානායුධගත් අත් ඇති ආයුධශිල්පපරි
චය කළාවූ පරිපූර්ණාඟප්‍රත්‍යඟඇති අත්‍යන්තවීරාඟයෙන්
355 සොභාමත් රූපශ්‍රීඇත්තාවූ මහායොධභටයෝද (මඳ) බූන්
ඇතුන්සෙයින් ඔබමොබ විජෘම්භණය කළාහ. දුනුගත් අත්
ඇති බොහෝ ධනුර්ධරයන් දහසුන් කරණකොටගෙණ
356 පොළෝතලය දෙව්සෙනග පැමිනියාසේ විය. රන්මිණි
මුතු ආදියෙන් යුක්තවූ විමන් සියෙන් ගහණවූ පුරය තාර
කාවන් ගැවසුනාවූ අහසමෙන් වැටහුනේය.

357 මහානුභාවඇත්තාවූ නීලොත්පලමෙන් දිගු ඇස්ඇත්
358 තාවූ ඒ නරෙන්ද්‍රතෙම මෙසේ ආශ්චර්‍ය්‍යාද්භූතපරම්පරාවක්
පවත්වමින් ස්වර්ණාභරණයෙන් වසනලද්දාවූ හස්තීන්
359 දෙදෙනෙක් යොදනලද ස්වර්ණමය මඩපයටනැගී නානාප්‍ර
කාරාභරණයෙන් සැරසුනේ මාණික්‍යරශ්මියෙන් සමුජ්ජ්ව
360 ලිතවූ ඔටුන්න සිරසින් දරමින් උදාවන හිරුමඬල දරන්නාවූ
උදය පර්වතයසෙයින් සවතීයවූ කාන්තිශක්තියෙන් අනඟයා
361 මඩනේ පුරසත්‍රීන්ගේ සතුටු කඳුලු ජලයෙහි නෙත්‍ර (යුග්මය)
ගල්වමින් නුවර පැදකුණුකොට ශුභලක්ෂණයෙන් හෙබි
යාවූ ශක්‍රයාසේ මනොඥවූ රාජමන්දිරයට ප්‍රවිෂ්ටවූයේය.

362 මෙසේ ඒ ප්‍රවරාඥාවර්ත්ති මධ්‍යමලොකපාලවූ පරාක්‍රම
බාහුනරෙශ්වරතෙමේ සියලු දිසාවන්හා අනුදිසාවන්ද පූජා

වෙන් නිපන්සේ කොට (ප්‍රථමාභිෂෙකය කළවර්ෂයෙන්) දෙවෙනි වර්ෂයෙහි ද්විතීයාභිෂෙකය කෙළේයි.

මෙතෙකින් සුජනයාප්‍රසාදසංවෙගපිණිස කළ මහවස අභිසෙකමඟලනිද්දෙසනම්වූ දෙසැත්තෑවෙනි අදියර නිමි.

---

# 73 වෙනි පරිච්ඡේදය.

---

1 ඉක්බිති කරණලද අභිෂෙකඇති අණිදක්නාවූන් අතුරෙන් ප්‍රවරවූ ප්‍රඥසම්පන්නාවූ ඒ පැරකුම්බා මහිපල්තෙම
2 මෙසේ සිතීය " අනිශයින් ලෙව්සසුන් වැඩුම් ක්‍රියාහි උපාය
3 රහිතවූ ඡන්දයෙන් වෙෂයෙන් භයින් මොහයෙන් අගතිගාම්වූ නුසුදුසු අයගැණීම් ආදී මහාදුක් දෙන්නාවූ පෙරරජුන්විසින් පූර්වයෙහිදී බොහෝසේ පෙළනලද්දවූ මේ ලො
4 කයතෙම යම්සේ සුවපත්වන්නේද; එසේම මහර්ෂීහුගේ සස්නද දුලද සියගණනින් මුසුබැවින් කලක් කැලත්බවට
5 ගියේ තුන්නිකා භෙදයෙන් බිඳුනේ කුසපූරණ ඛිසඇති
6 අලජ්ජීවූ නොයෙක් භික්ෂූන්විසින් බැසගන්නාලද්දේ පස්වාදහස නොයික්මුනු කල්හිම විනාශ භාගබවට ගියේ යම්
7 සේ දීර්ඝකාලයක් පවත්නේද; ඒ ඒ තන්හි විනාශවූ මහකුලඇත්තවුන් සුදුසුතන්හි තබා විධිවූ පරිද්දේන් පරිපා
8 ලනයයි යන යමක් වේද; චාතුර්විපිකමහාමෙඝසෙයින් අනවරතයෙන් දන් නැමති මහවැසි වස්වමින් යාචකයන්
9 පොෂ්‍යය කෙරෙම් යන යමක් වීනම් එද; මහදුක්ඇතිව රාජ්‍යසම්පාදනය කරන්නාවූ මාවිසින් මේ සියලුවිධානය නො
10 යෙක් පරිද්දෙන් ඵලබැවින් ගරුකොට සිතනලදී. ඒ යථාභිප්‍රෙතය කරනට දැන් මේ කාලයයි සිතා තනතුරු දීය යුත්තාන්ට ඒ තෙමේ තනතුරු දින.

11 ඉක්බිති බෙරපියවි කරවා යතියන් රැස්කොට අවුරුදුපතා තුලාබර මහදන් දෙවි-----ඉක්බිති රජතෙමේ ශාසන සං
12 වෘද්ධිවිධානයට තුන්නිකාවැසි මහසඟහු රැස්කොට එසේම
13 ආපත්ති අනාපත්ති විභාගක්‍රමයෙහි පණ්ඩිතවූ ප්‍රවරබොහෝ ආචාරීන්ද රැස්කොට ස්ථානාස්ථානදන්නා විනයධරයන්ට
14 තෙමේද පුරස්සරව ශුද්ධාශුද්ධ තපස්වීන් විචාරමින් පක්ෂ
15 පාතවන්නී නොවනබැවින් ආදර අනාදර රහිතවූයේ අප්‍ර

16 මාදඤ්විභාවීහෙයින් රූදෙවෙහි නොපමාව පැණවත්ව න්‍යා
යෙහි පණ්ඩිතවූයේ ශල්‍යකර්තෘ වෛද්‍යාචාර්‍ය්‍යයක්හු සෙයින්
පිළියමට සුදුසු නුසුදුසු දෘෂයන් සලකමින් පිළියමට යෝ
17 ග්‍යයන් පිළියම්කෙරෙමින් පිළියමට අයොග්‍යයන් හරිමින්
අසූත්තෙන් පහවූ සඞ්කල්පනාඇති හෙතෙමේ විනයෙහි
18 කී ක්‍රමයෙන් වට්ටගාමණී අභයරජ්ජුදවස්පටන් මෙකල්දක්
වා බෙ.හෝවූ පෙරම්හිපලුන්විසින් මහාප්‍රයාසයෙනුත් සර්‍වප්‍ර
19 කාරයෙන් කොට අඩාල සමගි බැව්ඇති උනුන්ට විරුඬ හැ
සිරීම් ඇති නානාවිග්‍රහයෙහි දක්‍ෂවූ නිකායත්‍රය පූර්‍වඅතික්‍රා
20 න්ත ජාතිවල ශාසනයාගේම සංසුඬිය පතා ගන්නාලදවුත
ඇත්තේ රාජ්‍යසාධන දුඃඛයටත් වඩා විගුණවූ අත්‍යර්‍ථආයා
21 සය අනුභවකෙරෙමින් මහපැණැති ඒරජතෙමේ සමගිකො
ට පස්වාදහසක් යම්සේ සුඛව පවත්නේනම් එසේ බුදුසස්
22 න කිරිහා දියසෙයින් එකග කෙළේය.

23 ඉක්බිති ඒ නරශ්‍රෙෂඨතෙමේ නුවරමැද විසාල නානාශා
ලාඇති සතරදිගට දොරටුඇති චතුශ්ශාලාවක් කරවා නො
24 යෙක් සියගණන් සිල්රක්නවුන්ට දවස්පතා දන්දෙන්ට
සර්‍වොපකරණයෙන් යුක්තවූ මහදන්වැට තැබීය. සොම්
25 නස් ඇති ඒ රජතෙමේ ඔවුන්ට වැඩිමහළු පිළිවෙළින් හැම
කල්හිම අවුරුදුපතා හඳනා පොරෝණ (පිළි) දෙවීය.

26 ඉක්බිති ඒ රජතෙමේ නුවර සතරදිග භාගවසයෙන් ප්‍ර
27 මාණකොට බෙදනලද්දවූ දන්හල් සතරක් කරවා එහි
• ලොහොමුවා නොයෙක් බඳුන්හා කන්වසින් මාවූලාද ක
28 ලල් ඇතිරිලිහා මැසිද දහස්ගණන් මිහිරි කිරිඇති දෙනු
න්ද තබ්බවා පසුව ඒ සමීපයෙහි පිරිසිදු ජලධාරාඇති නො
29 යෙක් මල්පල්ලෙන් සැදුම්ලද තුරුපෙළින් හෙබියාවූ ආ
30 නන්ද ජනක නඳුනුයන්සේ සිත්කළුවූ උයනුදු කරවා එම දන්
හල් වෙත ධනධාන්‍යයෙන් යුක්තවූ සතුරු ගුළම් ආදී සර්‍වො
31 පකරණයෙන් යුක්තවූ පරිපූර්‍ණ බොහෝ කොටු ගුලුද කර
වා මසුරුනැතිව එහි සීලාදී ගුණයොගඇති නොයෙක් ද
32 හස්ගණන් සතරදිගින් වඩනා භික්‍ෂූන්ටද බමුණන්ටද ව
ණිබ්බකයන්ටද බොහෝවූ අනික් යාචකයන්ටහා මගින්ටද
33 අකම්ප්‍යවූ බුහුටිවූ ප්‍රීතියෙන් පිනාගිය සිත්ඇති පැණවත්
ඒ රජතෙමේ දවස්පතා එහි මහදන් පැවැත්විය.

34 ඉක්බිති කරුණාපර නරෙශ්වරතෙමේ නොයෙක් සියග
ණන් රොගීන්ගේ වාසයට සුදුසුවූ මහාසාලාවක් කරවා
35 යටකී ක්‍රමයෙන් එහිද සියලු උපභොගසාමාග්‍රිය තබ්බවා
36 සියලු රොගීන්ට එකෙක් පාසා දිවාරාත්‍රිදෙක්හි පොහොණ

පමණින් බෙහෙත්හා කැයයුතු බුදියයුතු ආහාරාදියද සපය
37 තුපිණිස එක් දසෙක්හා දෑසක් දෙවා ඒ වෙදහල්හිත් නො
යෙක් බෙහෙත් සමභාරහා ධනධාන්‍යාදීන් රැස්කරණලද
38 බෙහේ කොටු ගුළු කරවා නොයෙක් අවස්ථාවිභාගයෙහි
නිපුණවූ මහපැණඇති සියලු වෙදසතරදන්නා කෘතහ
39 ස්ත වෙදුන්ට වැටුප් දී හැමතැන වෙසෙස්දන්නේ උන්ලවා
සුදුසු පරිද්දෙන් රුදෙවෙහි මොනවට පිළියම් කරවමින්
40 මස සතර පෙහෙවස් දවස්හි පහකළ සව්බරණින් මොන
වට සමාදන්වූ පෙහෙවසින් සුපිරිසිදුව සුදු උතුරුසළු ඳෙප
41 රවගෙණ ඇමතියන්විසින් පිරිවරණලදුව තෙමේම ඒ
වෙදහලට එළඹ කුළුණින් සිහිල් සිත්ඇතිව පහන් සොම්
42 නෙතින් රොගීන් බලා නරශ්‍රෙෂ්ඨවූ තමනුත් ආයුර්වේදයෙහි
43 නිපුණ බැවින් එහි නියුක්ත වෙදුන් ගෙන්වා මහපැණැත්
44 තේ ඔවුන්ගේ පිළියම් ක්‍රමයන් සර්වප්‍රකාරයෙන් විචාරා
ඔවුන්විසින් විරදවා කරණලද පිළියමක් ඉදින් විනම් වා
දීන් අතුරෙන් ශ්‍රෙෂ්ඨවූ ඒතෙමේ විරෙධයන් යුක්තිපරිද්
45 දෙන් ඔවුන්ට අවබොධ කරවා තෙමේ ශාස්ත්‍රයුක්තිය වූප
රිද්දෙන් උපදෙස්කොට සමණීව සියතින් තිඝපදෙනෙකුට
46 පිළියම් කොට රොගීන් සියල්ලන්ගේම සුවදුක් විචාරා එ
47 සේම රොගමුක්තයන්ට අඳනා පිළි දෙවා කුසල්හි ඇලුනේ
වෙදුන් අතින් පින් අනුමෝදන්ව උන්ටද පින්දී සියගෙට
48 යයි. කරුණානුගතවූ නිරොගී ඒ රජතෙමේ මේ උපායෙන්ම
අවුරුදුපතා රොගීන් සියලු රොගයන්ගෙන් මිදවී.

49 පෙර නුදුටු නෑසූ අතිකුදු අද්භූතයෙක් ඇති මොනවට
පවත්වනලද මහාකරුණාගුණයොගඇති ඒ රජහුගේ වෙ
50 දහලට කොපුල හටගත් අර්බුදයකින් අතිශයින් මිරිකු
51 නාවූ මහදුකින් පහට එක් කවුඩෙක් ආය. උහු දැඩිදයාමල
පතින් බඳනාලද්දෙකුසේ බැගෑව අතිශසින් හඬමින් පියා
52 සුන්නෙකුසේ එසින් බැහැරනොයයි. එකල්හි වෙදහු ඒ
කවුඩා අවස්ථාව තත්වූ පරිද්දේන් හැඳින උහු ගෙණ මහ
53 රජහු විධානයෙන් පිළියම් කළහ, රොගය සන්හුන්කල රජ
තෙමේ ඒ කවුඩා ඇතෙකුපිට නංවා නුවර පැදකුණුකරවා
54 මුදුහැරවිය. තිරිසනුන්කෙරෙහි පවා මෙබඳු උදරතර
කරුණාවක්තොමේ කොහි තිකලක කාවිසින් මෙසේ දක්
නාලද්දී හෝ අසනලද්දීද.

55 ඉක්බිති සතුටුකළ හුදිජනයා ඇති නොපසුබස්නා පැර
කුම්බා රජතෙමේ නාමශෙෂබවට පැමිනි පොළොන්නරු
56 නගරවරය ඉතා මහත් රජසිරිසර ඔලඹනට නොපොහො

57 නමුවූ විසල් සිත්කළු කොට කරවන්ට ආරම්භකෙළේය. අන තුරුව මිහිපල්තෙමේ හාත්පසින් පෙරරජුන් පුරපවුරු වලල්
58 ලෙන් බැහැර කඳයුර පිරිකෙව්කොට සුණුපිරියම්න් දිලි යෙන උස්මහත් පවුරුවලල්ලක් සරත්වලාසේ පඬර කො
59 ට කරවී, ඒ වටා අනුක්‍රමයෙන් කුඩා පවුරු තුණක්ද ඒ පිරි
60 කෙව්කොට නානාප්‍රකාර වීථිද කරවී. එසේම ඍද්ධිය රාජ
61 භවනයහා සියලු අනතඃපුරයද පරික්‍ෂෙපකොට අනුප්‍රාකාර මඬලයක් කරවී.

ඉක්බිති සියලු මිහිපලුන් අග්‍රජතෙමේ ගබ්ගෙවල් දහ
62 සින්හෙබියාවූ විසිතුරුනොයෙක් සියගණන් මැඩින් සැර හූනාවූ කෙලෙස් කුළුවත් කුළු ගෙවල් කැටිකළාවූ නන්
63 විසිතුරු ක්‍රියකම්හා මල්කම්න් දිලියෙන්නාවූ රන්මුවා මහ දොර සුළුදොරහා කවුළු ඇති මොනවට බෙදනලද බිතුහා
64 හිණිපෙති ඇති සියලු ඍතුයෙහි සුවඑලවන්නාවූ රන්මුවා දළකඩමුවා ආදිවූ මාහැඟි ඇතිරියෙන් යුක්තවූ නොයෙක්
65 හැඳ දහසින් අනවරතයෙන් හෙබියාවූ අහස්ගඟ හොබ නාබවට සිනාසෙන්නාක්බඳු කැලුම්ඇති සඳරැස්සේ සුදු
66 වූ සතරකොන්හි එලෙන දළමුතු කලඹින් නිතොර අති
67 ශයින් හොබනාවූ රන්මුවා මහත් පහන් මාලාවෙන් තෙවූ නාවූ මල්දුම්සබඳ දුරගමන සුවඳ අනවරතයෙන් නගන්
68 නාවූ සිරියහන් ගැබින් යුක්තකළාවූ උතුම් පසතුරුරැව්
69 සුදුසු රැව් වගුරුවන්නාවූ කුසලයන්ගේ නොමඳ අනුසස් ගුගුරනනාබඳු ඒ ඒ තැන එලෙන රන්කිකිණිදැලින් යුක්ත
70 වූ විස්සම්දෙව්පිත්හු අසමාන මැව්මක් සමානවූ පහන්බැව් එලවන විජයොත්නම්න් යුත් තමහට වැඩියක් නැති උතුම් වූ සත්බුමු මහපහයක් කරවී.

71 ඊට ඉක්බිතිකොට බමුණන්ලවා ශාන්ති කරවන්ට රන් මැදුරක්ද, මනත්‍රපුරවනුපිණිස සිත්කළුවූ ධාරණීගෘහයක්ද,
72 අනතුරුකොට මහාසෘෂිහුවිසින් වදාරණලද ජාතකයන් එහි සිටි ආචාය‍ෂ්‍යකෙනෙකුන් විසින් අස්වන්ට රම්‍යවූ වටගෙ
73 යක්ද, ඉක්බිති කසාපිළි හඳනා වෘතින්හෝ බෞඩ්භික්‍ෂූන් විසින් දෙනලද පිරිත්පැන් පිරිත්හු ගනනාපිණිස පත්
74 සැත්තෑගෙයක්ද (කරවිය.) හාත්පසින් විසිතුරු තිරපව්
75 රෙන් පිරිකෙව් කරණලද්දවූ මාහැඟි රන්වියතින් හෙබි
76 යාවූ ඒ ඒතැන පුදනලද නන්වන් සුවඳමලින් එක් මල් ගුලාවක්සේ බබලන සුවඳ තෙල් පහනින් අනවරතයෙන්
77 අළුකළ ගැබිඇති කළුවැල්දුම්න් හාත්පසින් සුවඳකවනලද් දවූ රන්මුවාඈ නොයෙක් බුදුපිළිරුවින් විසිතුරු කරණ

ලද වස්ත්‍රයෙහි නගණලද්දාවූ සර්ඥයන් පිළිබිඹුමාලා
78 වෙන් හොබවනලද බුදුපිළිරුවෙහි සියතින් නෙත්තබන්
වත් බුදුන් පුදන්වත් අනුත්තර සඬම්මශ්‍රවණයටත් ඒ රාජේ
79 න්‍ද්‍රයා ප්‍රවිෂ්ටකල දිව්‍යසභිනි සදෘශකොට ලයානිතව මි
හිරි ගායනාකොට නටන නාටකස්ත්‍රීන්සමගම කෙකාරා
80 වය වගුරන්නාවූ අනවරතයෙන් පටන්ගත් නැටුම් ඇති
81 ජනයා ආශ්චය්‍ය්‍යයෙන් විවස කරන්නාවූ උතුම් මොනරෙකු
ගෙන් හෙබියාවූ ධර්ම්මාගාරයක්ද හැමකල්හි ධර්ම්මයට
අනුව පවත්නා හේතෙමේ කරවිය.

82 ඉක්බිති සඳලලවෙත ලයානිතව අනෙකගන්ධර්ව්වගීනි
කාව අසන්වත් රම්‍යනෘත්‍ය දක්නටත් රන්මුවා වැඩින්
83 සාත්පසින් තෙවුනාවූ තමාගේ චරිතයෙන් යුක්ත සිතියමින්
මනහරවූ කුඩලාභරණය අභුපලඳනාය මුක්තාහාරය ය
84 නාදි නානාභරණ දීපතිඇති ක්ෂෞමකෞශෙයවීනාදි විචිත්‍ර
වස්ත්‍ර ශොභාවෙන්යුක්තවූ ස්වර්ණ්මය මිහාකඳහා අතුපතරින්
85 තෙවුනාවූ සිතියම්කරණලද නොයෙක් පක්ෂිසමූහයන්ගේ
86 ශොභාවෙන් යුක්තවූ අභිමතාර්ථදායක කල්පවෘක්ෂයෙන්
හෙබියාවූ සරස්වති මඩපයක්ද නරශ්‍රෙෂ්ඨතෙමේ කරවිය.

87 ඊට ඉක්බිතිකොට සුධර්ම්මානම් දිව්‍යසභාව පොළෝනලට
බැස්සා බඳුවූ සියලුලොකයෙහි චාරිත්‍ර එක්තැනෙක කැටි
88 කළාබඳුවූ තුන්මහලක්ඇති විසිතුරු සිත්තමින් හෙබියාවූ
සිත්කළු පිළිකඩපෙළින් වටකරණලද්දාවූ එහෙයින්ම සිත්
89 අලවන්නාවූ ගායකාදින්ට ඉෂ්ටාර්ථප්‍රදානය කරන්නාවූ ක
ල්පවෘක්ෂයාගේ අධඃප්‍රදෙශයෙහි කරණලද මාහැහි අස්න
90 කින් හෙබියාවූ ස්කීය බාහුබලයෙන් යුදෙහිදී ලබ්ධාග
නාව ලත්කල (එහෙයින්ම මුදුනෙහි) බබලන්නාවූ කිරීට
91 යක්බඳු නානාරත්නයෙන් හා ..රවූ නරලෝ කොපුලත්
භූගේ ..වන් මහාදෙවියාගේ අළමඬුලුබඳුවූ රාජවෙසීභුජග
92 නම් රම්‍යවූ මඩපය කරවිය—එසේම පොළෝ බිඳගෙණ
නැංගා වැනි මකරතොරණින් නිමියාවූ රම්‍යවූ එකස්තම්භ
93 ප්‍රාසාදයක්ද කරවී. පසුව (එහි) මනොඥවූ රන්මුවා වැම්
මතෙහි පිහිටි රන්බිමින් හෙබියාවූ හොබනා පහන්තුර
94 කින් යුත් සිත්කළුවූ ඒ රාජසිංහයාගේ රන්ලෙන් සිරි එල
වන රන්ගෙයකින් හොබවනලද්දේය.

95 ඉක්බිති ඒ රාජනිවෙසනය වෙත පෙදෙස්හි පෘථිවීපාල
96 නායක ඒ රජතෙමේ ගෘහොද්‍යානයක් කරවී. (ඒ උයන
තෙමේ) අධිකශ්‍රීන් නඳුනුයන් සාදෘශ්‍යය දැක්වී. ජනයන්ගේ
97 නෙත්‍රසන්තුෂ්ටි දායකවූයේ සතුටු කෙරෙසියන හේතුවින් නා

මින් නඟනය. ඒ උයන කුසලතාවෙන් වලඳනාලද රුක්
98 ඇත්තේය. නානාපුෂ්පරසාස්‍වාදයෙන් මත් බමරකැලන්
විසින් ගිගුම්ගත්තේය. සපු හොපලු තෙල් නා දෙඹදුනුකෝ
99 සල් පළොල් කොලොම් අඹ දඹ බක්මී මුහුළු පොල් කෙ
ලිඳ රත්කරව් දෑසමන් මලිගිය තමළු යොහොඹු මේ ආදී
100 නන්පලකුසුමෙන්යුත් ද්‍රැමයෝ යම්තැනකට ගිය මිනිසුන්
ගේ සිත් උමතු කරන්නාබඳු වෙත්ද, මොනරුන්ගේ කේ
101 කා රවයෙන්හා කොවුලන් මියුරු අව්යත් හඬින් හැමකල්හි
ලෝවැස්සා ලොභකරමින් සිත්කළුද, කමලොත්පලසාළිලස
102 යෙන්හා විල්ලිහිණිරවයෙන් මනොහරවූ සිත්කළු ඉවුරු
103 ඇති විල්රැසින් හෙබියේ; ඇත්දළමුවා හිම්නැති රූපෙ
ළින් හෙබියාවූ මැඬින් දඬිකළාක්වැනිවූ මහත්ව බබලන්
104 නාවූ යතුරුනළින් හරණලද දියදහරින් හැමකල්හි වස්
105 නා මහමෙකුළු අයුරින් සිත්කළුවූ උද්‍යානශ්‍රියගේ මෞලි
මඩනාකාර දරන්නාවූ නෙත් පැහැරගන්නා ධාරාමඩපය
106 කින්ද හොබවන ලද්දේය.
107 නොමද සඳුන් මැඬින් හෙබියාවූ භූමඬල මඩනාකාර
එලවන්නාවූ තෙවුනා විමානයකින් හොබනේද, (එසේම)
108 වොරජනා අසමාන අටැස් මඩුවකින්ද, නැවත නැඳවැ
ටක් බඳු මඩුවකින්ද, අනන්‍යාදරණවැල සිරි එලවන
109 ශ්‍රිමත් මනොඥ මහත් මඩුවකින්ද හෙබවිය. යම් උය
නෙක්හි පිහිටි ගල්පොකුණුතොමෝ සතුටුකළ අනත්
110 සපුරිසත්ඇති මිහිපල් මුදුන්මල්රජහු හැමකල් සිත් සතුටු
කරන්නිද, යම් උයනක්තෙමේ මගුල් පොකුණ කරණ
කොටගෙණ අතිශයින් රමණීයවූයේ හැමකල නඳුන්
පොකුණෙන් යුත් නඳුනුයනසෙයින් හැගේද, යම් උය
111 නෙක්හි සුවඳ දියදහරින් යුත් අනික් පුණුනම් පොකුණු
තොමෝ ඒ මිහිපල්සඳහු සතුටුකරනනි වොරජනිද, එසේම
112 යම්උයනෙක් වසත්නම් ලෙනින්හා පොකුණුවලින්ද යුක්ත
වූයේ නොමඳසිරින් මනාවූයේ හැමකල සිත්කළුව පෙ
113 ණේද; මෙරමා මඩනා ඒ රජතෙමේ දෙපරිද්දෙකින් ගිය
දියදහර ඇතිබැවින් දිවයිනක් බඳු පෙදෙසක අන්‍යවූ ඊපො
114 ද්‍යානයක්ද කරවිය. යම් උයනෙක්හි සියලු සුණුයමින් නිමි
යාවූ විස්මයාවහවූ කෙලෙස් තුළුමුදුන්බඳු සුදුගෙය දෘශ්‍ය
115 මානද, නානා විද්‍යාවිශෙෂයන්ගේ දර්ශනයපිණිස කළහෙයි
න් විද්‍යාමඩපනම්වූ විමානයෙන් සැරහෙන ලද්දේද, රන්
116 රස්සෙන් යොදනලද මනොහර ඕවිල්ලෙන් යුක්තවූ ඉතා
පවිත්‍රවූ එසේම සිත්කළුවූ දෝලාමඩපය යම් උයනෙක

117 හෙබ්ද, හාෂ්‍යරසඥනා ක්‍රීඩාමාත්‍යයන්විසින් පෙරටුකර
ණලද රජතෙමේ යම්තැනෙක සිත්අලවාද, එහෙයින් ක්‍රීඩා
118 මඩපයයි නම්වූ විමානයෙන් වොරජනාවූද එසේම දළකඩ
කර්‍මාන්තයෙන් උපලක්‍ෂිතවූ තිරස්කරණීමඩපයෙන්ද ම
යූරමඩපනම් අන්‍යමඩපයකින්ද ප්‍රවරවූ කැටපත්මුවා බිතු
119 ඇති අන්‍යවූ ආදර්ශමඩපයකින්ද හැමකල්හි හොබවන ලද්
දේය.

120 යම්උයනෙක්හි අනන්තයා දරණවැල බඳුවූ (අතුට) බඳ
නාලද ගලින් යුක්තවූ අනන්තපුෂ්කරණීතොමෝ හැමකා
121 ල්හි ජනසමූහයා සතුටුකරනීද; තවද යම්උයනෙක්හි විසි
තුරුසිත්තමින් යුක්තවූ චිත්‍රානම් පුෂ්කරණීතොමෝ මෙරමා
මඩනාවූ පරාක්‍රාන්තබාහුනැමැති රාජසෘෂියා සිත්අලවනීද
122 යම් උයනෙක්හි නන්සිතියමින් විසිතුරුවූ තමහට වැඩියක්
නැත්තාවූ සිවුමහල්විමන ශෘංගාරශබ්ද පෙරටුකොට හෙ
123 බ්ද තල් කිතුලින් යුක්තවූ නා දොඹතුරින් රඳනා (යම්
උයනක්) කෙසෙල්ගසින්හා තිණිහිරිගසින්ද [එසේම] යො
හොඹුගසින් යුක්තවිද.

124 ඊට ඉක්බිතිව සියලු මිහිපල්නැමැති කුලපර්වතයන්ට මහ
මේරුව බඳුවූ ඒ රජහුගේ අභ්‍යන්තරිකවූ තුණුරුවන් මාමක
125 කොටඇති අජ්ඣාසයන් පරිග්‍රහකරන්නාවූ පැණවත්
පිරිසිදු සිත් ඇති නොයෙක් කුශලක්‍රියාවන්ගේ විධානො
126 පායෙහි පඬිනවූ ඡන්දයෙන් ද්වෙෂයෙන් හයින් මොහයෙන්
අත්‍යර්ථයෙන් අගතිගාමී නොවන්නාවූ ජලයෙන් සයුරසේ
127 කුශලරාශින් තෘප්ත නුවූ හිරිඔත්තප්පසම්පන්නවූ නිත්‍යාරබ්ධ
පරාක්‍රම ඇති සිල්රක්නා විචක්‍ෂණවූ මහෙන්ද්‍රනම් එක් ඇ
128 මතියෙක්තෙමේ සුවාසූදහස් දහම්කඳනැමති අමෘතාභිෂෙ
කයෙන් පවිත්‍රවූ දළදා ධාතුස්වාමිහුගේ වැඩිම්පිණිස සියලු
129 කම්හි සැමදා උපකාරකවූ ශ්‍රීමත් එම නරෙන්ද්‍රයා අනුග්‍රහ
130 යෙන්, රන්මුවා පියසිදොර කවුළුවෙන් හෙබියාවූ ඇතුළපිට
131 කරණලද නොයෙක් සිත්තමින් සමුජ්වලිතවූ විදුලිදැලින්
වළඳනාලද රන්මුවා පව්වක්සෙයින් නන්වන්විසිතුරු විය
132 නින් හෙබියාවූ නන්පැහැ විසිරෙන තිරයෙන් වොරජනාවූ
මාහැඟි ඇතිරියෙන් යුත් මැසිපෙළින් යුක්තවූ ශ්‍රීදේවතා
133 වගේ නිවාස ගෘහයක්බඳුවූ සියලු ලෙව්හි සිත්කළුද එක්
134 තැනෙක කැටිකළා මුනීනිමත්ව බබලන්නාබඳුවූ ඉතා සිත්
කළුවූ මුත්හර හංස තුසාර කිරිවලාසේ පඬර විසල්
135 මනොඥ චන්ද්‍රශාලාවකින් වොරජනාවූ නගනලද කොඩි
ඇති සිත්කළුවූ රන්මුවා කොත්කැරලිඇති ප්‍රසාදජනකවූ
හොබනා විසිතුරුවූ පහය කරවිය.

136 ඊට ඉක්බිතිව කීර්ත්තිශ්‍රීමෙඝමහාරාජනමැති මහාර්ණව
යෙන් පහළවූ චන්ද්‍රලෙඛාබඳුවූ ලොවැස්සා නෙතට මනොහ
137 රවූ ක්‍ෂත්‍රියවංශයට එකකෙතුවූ ඒ මහරජහුගේ ප්‍රියභාර්‍ය්‍යාවූ
ඒ මිහිපල් මුදුන් මල්හු සීතාදේවිය රාමයාසෙයින් සිත්අල
138 වන්නාවූ නොයෙක් සියගණනක් අන්තඃපුරස්ත්‍රීන් අතුරෙ
හි අත්‍යන්තවල්ලභතරවූ තුණ්ණරුවන් ස්වාමිකොට පවත්
139 නා සියහිමියා තබා ශක්‍රදෙවයාහා ශදෘශවූත් යම්බඳු යම්
බඳු තිසිවෙක් තණපතටත් නොතකන්නාවූ ඒ නරේන්ද්‍රයා
140 මනවඩනා පරිද්දෙන් හැසිරෙන්නාවූ ප්‍රියවාදිනීවූ ශ්‍රද්ධා
141 ශිලාදී අනෙකගුණාභරණයෙන් හෙබියාවූ නැටුම්ගීයෙහි
දක්‍ෂවූ කුශාග්‍රබුද්ධීන්යුක්තවූ කාරුණ්‍යගුණයොගයෙන් හැම
142 කල් සිහිල් මනස් ඇති රූපවතීන් අතුරෙන් ප්‍රවරවූ පතිවූ
තා ධර්මය රක්නාවූ ප්‍රඥාවන්තවූ පූණ්‍යවන්තවූ පවිත්‍රක්‍රියා
ඇති ලෙව්හි පතළ කීර්ත්තිඇති රූපවතීනම් දෙවිතොමෝ
143 ලාමකවූ අල්පායුෂ්ක මිනිසුන්අතුරෙන් යාපත්මනුෂ්‍ය තෙ
මේ ගිනිගන්නාලද හිස ඇත්තෙකුසෙයින් හැසිරෙන්නේ
144 යි මරහුගේ නොඒම නැත්තේය මේ ආදී අනිත්‍යතාවෙන්
යුක්තවූ බුද්ධභාෂිතය මෙනෙහිකරන්නී නොයෙක් මුනි
145 ශ්‍රෙෂ්ඨයන්ගේ භාෂිතය ශ්‍රවණධාරණඇත්තී සත්ත්වයන්ගේ
අල්පායුෂ්කබවහා සසරසයුර මුළාව හැසිරෙන්නන්ට කු
146 සල් සමාන ප්‍රතිෂ්ඨාවක්හුගේ අභාවයත් දත්නී නොමැ
ලිව නානාප්‍රකාරකුසල් සම්පාදනය කරන්නී සසර සයු
147 රෙන් වහා තමා එතරකොට නිවන්තෙරට පමුනුවනුපිණිස
රන්මුවා නැවක්බඳු රන්මුවා මහසෑයක් නුවරමැද කරවූවා.

148 ඉක්බිති රම්‍යවූ ඒ නගරයෙහි නොයෙක් සියගණන් දෙ
මහල් තුන්මහල් ආදියෙන් යුක්ත නොයෙක් දහස්ගණන්
149 ගෙවලින් හොබවන ලද්දාවූ සියලු අතුරු සල්පිළින් යුක්ත
සියලු උපකරණයෙන් යුක්තවූ දවස්පතා ඇත්අස් රථ සවා
150 රණයෙන් නොකඩවූ නිත්‍යයෙන් පටන්ගන්නාලද මහසැ
ණකෙළියෙන් යුක්ත ජනසමූහයාගෙන් ගහණවූ නානාප්‍ර
කාර විථීන්, පැණඇති ඒ රජතෙමේ කරවිය.

151 ඒ රජතෙමේ ඊට ඉක්බිතිව සියලු සම්පත් එලවන්නාවූ
ශ්‍රීවහනයවන තුන්මහල් තුන්පහයකින් සමලඞ්කෘතවූ
152 සමීපයෙහි කරණලද වෙළුවනය ඉසිපතනය කුසිනාරා
ය යනනමින් යුත් විහාරත්‍රයකින්ද යුක්තකරණ ලද්දාවූ
153 රාජවෙසීභුජඟය එසේම රාජකුලාන්තකය විජිතයයි යන
නම් ඇති අතුනුවර තුණක් කරවිය.

154 ඉක්බිති පෘථිවීපාලතෙමේ ඒ සමීපයෙහි රාජප්‍රසාදයටහා පූරත්‍රයට මධ්‍යවර්ත්ති (ප්‍රදෙශයෙහි) ගව්ගව්තන්හි සතර
155 දිගින්වඩනා භික්ෂූන්පිණිස (කරණලද) විශ්‍රාමශාලායෙන් හෙබියාවූ සිත්කළු ධර්මශාලා ප්‍රතිමාගෘහසහිතවූ එබඳුවූම උතුම් වෙහෙරතුණක් කරවිය.

156 මෙසේ සර්වාංග සම්පන්නවූ සර්වකාමයෙන් සමර්පිතවූ ඒ රජතෙමේ වසන්තශ්‍රීන් හෙබියාවූ අමරාවතිය සදෘශවූ සත
157 රගවූ අයමින් සත්ගව්විතරින් තමාවිසින්ම වඩනලද්දාවූ ස්වකීයනාමයෙන් උපලක්ෂිතවූ ශොබනා සිත්කළු පව්රැව
158 ලදුඇතිඑසේම සිත්කළු මුඛ්‍යසෙවෙනි ගෙයින් සමුජ්වලිත වූ කොට්ඨමහවෙයින් යුක්තවූ ඇසට රසයින්බඳු පුලස්ති
159 නම්පුරයෙහි ශක්‍රදෙවෙන්ද්‍රයා සදෘශවූ හැමකල්හි නොල ත් ලද්දවුන්ගේ ලාභපාලනයෙහි පඬිතවූයේ විශිෂ්ටවූ රා
160 ජද්වාරය මනොරම්‍යවූ සිංහද්වාරය විශාලවූ හස්තිද්වාරය එ
161 සේම විශාලවූ අන්‍යවූ ඉන්ද්‍රද්වාරය හනූමන්තද්වාරය උතු
162 හවූ කුවෙරද්වාරය විචිත්‍රවූ චණ්ඩිද්වාරය එසේම රාක්ෂසද්වාරය උස්වූ භුජඟද්වාරය උජ්වලවූ පානීයද්වාරය අන්‍යවූ උද්‍යානද්වා
163 රය ශොබනා මයාද්වාරය මහාතීර්ථද්වාරය උතුම්වූ ගන්ධර්ව
164 ද්වාරය යනමේ තුදුස්දෙර නරශ්‍රෙෂ්ඨවූ ඒ රජතෙමේ කර විය.

165 මෙසේ පූර්වයෙහි ඉතා කුඩාවූ අනෙක යුඬයෙන් නටුවාවූ ඒ පොළොන්නරුව මෙරුසාරවූ විදුරු අගක් වැනි ප්‍රඥාඇති ඒ පරාක්‍රමබාහු රජතෙමේ මනා තව්තිසා දෙව්නුවරමෙන් සජ්ජිත කෙළේයි,

මෙතෙකින් භූද්ජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස පුලත්තිපූරපටිසඞ්ඛරණනිද්දෙසනම්වූ තෙසැත්තෑවන අදි යර නිමි.

# 74 වෙනි පරිච්ඡෙදය.

---

1 ඉක්බිති නරශ්‍රෙෂඨතෙමේ සොළිසේනාවවිසින් සර්වප්‍ර
කාරයෙන් සියල්ල නසනලද තමන් මුල් රාජධානිවූ ඒ අ
2 නුරාපුරය ජීවමාන ශාස්තෘහුගේ දැව්දහසහා නිම්වලලූ ඇති
චක්‍රලක්ෂණයෙන් හෙබියාවූ පාදයෙන් පිවිතුරුකළ බිම්හෙ
3 සින්ද මහර්ෂිහුගේ මහාබොධිය දකුණුශාඛාවෙන්හා ධා
4 තුද්‍රොණයකින් පිහිටි ප්‍රදෙශහෙයින්ද අතිශයින් පිදියයුතු
යයි හඟනේ ඒ නගරයාගේ ප්‍රතිසංස්කරණය කරවන්ට
5 පටන්ගත------පසුව විචක්ෂණවූ ඒ රජතෙමේ එක් මහඇ
මතියෙකු කැඳවා සියකැමතිවූ පරිද්දෙන් එය උහුට අණ
6 කෙළේය. ඉක්බිති හේතෙමේද ඒ ආඥුව සර්වප්‍රකාරයෙන්
නූගුළුවා හිසින් පිළිගෙණ ඇඳිලිද බැඳ අනුරාපුරට ගොස්
7 තෙමේත් විධානයෙහි පඬිතවූයේ සියලු රාජාඥුව සම්පාදනය
කරන්ට ආරම්භ කෙළේය.

8 ඉක්බිති නුවනැති ඒ ඇමතිතෙමේ පෙර රජුන් රජදහන්
සීමායෙහි පව්රු අනුපව්රුහා වීථි ප්‍රාසාද තොරණයන්ද
9 මනොඥ පොකුණුද සුදසුන් උයන්ද පෙර පරිද්දෙන්
නොබෝ කලකින්ම කරවිය------පසුව මහසෑ ආදී තුන්නි
10 කාඅයත් දගැප්ද ලොහොපා ආදී බොහෝ වෙහෙරද කර
11 විය. තමා විසූවාවූද දොරටු අටලු තොරන් සහිතවූ දුටුවන්
සිත් පිනවන සඳල්ලෙන් සිත්කළුවූ රාජාංගන සහිත රුසිරු
12 පහයද මේ ආදී සමෘධියෙන් යුක්ත සියලු නුවර පෙරසෙයින්
කරවිය------මෙසේම ඒ රජතෙමේ බොහෝවූ පෙරරජුන්
13 විසින් කරවනලද කර්මාන්තයන් එක් ස්වකීයාමාත්‍යයෙකු
ලවා වහා නිමවිය------(ඒ එසේමැයි) නොයෙක් ජාතියෙහි
14 රැස්කළාවූ කුශලොද්භවයට භාගිවූ නුවනැත්තන්ගේ සි
යලු මනදෙළ ඒකාන්තයෙන් මොනවට සිදුවේමැයි.

15 ඊට ඉක්බිතිව නුවර දොරටු තොරණින් යුක්තවූ පව්රු
දියඅගල් වීථිහා පහ අවන්හලින් හෙබියාවූ සීලාදී ගුණ
16 යොග ඇති නොයෙක් සියගණන් භික්ෂූන්ගේ වාස
ය පිණිස කරණලද ප්‍රාසාදයන්ගෙන් හෙබියාවූ ආරාම
17 යෙන් සිත්කළුවූ දෙවියන්ගේ ආලකමන්දා නුවර සෙයින්
පොහොසත්වූ පිරුණාවූ සුභික්ෂවූ හැමකල්හි මනුෂ්‍යසමූහ
යාගෙන් ආකීර්ණවූ පරාක්‍රමනම් නුවරද මහපැණැති ඒ රජ
තෙමේ කරවී.

18 ඊට ඉක්බිතිව මේ සිංහලද්වීපයෙහි ඒ ඒ ජන පදයෙහි සිටියාවූ මහඇමතියෝ ඒ ඒ දනව්වැසි මහජනයා නො පෙ
19 ළා ඒ ඒ දනව්වෙන් උපදනා අයත් නොනස්නාකොට යම් යම් පරිද්දෙකින් ඔව්හු ගණිත්නම් එසේ එසේ ආඥා කෙ
20 ළේය...... පසුව මසක්පාසා සතර පෙහෙවස් දවස්හි සියලු ලක්දිව්හි වැව් ආදී සියලුතැන්වල ගොඩදිය හැසිරෙන්
21 නාවූ මුවන් මසුන් ආදී ප්‍රාණීන්ට අභයදානය දුන්නාවූ කොයි තුත් භයනැත්තාවූ ඒ රජතෙමේ අභය දෙවීය.

22 පසුව රුහුණුරටවැසි බොහෝ සාමන්තයෝ මාණාභර ණරජහු මළකල තමන් පිහිටක් නැතෙනෝ පරාක්‍රමබාහු
23 රජහුගේ ස්වරූප නොදනෙනෝ භයින් තැතිගත් සිත්ඇති බැවින් ඒ රජහට තමන් නොදක්වා ස්වකීයඅපරාධය සිතෙ
24 ණෙහි කෙණෙහි මෙනෙහි කරනෙනෝ කල් පසු යත් යත්
25 භය දෙගුණබවට ගියකල ඒ රාජේන්ද්‍රශ්‍රෙෂ්ඨයාගේ අන්‍ය යන්විසින් අවිලඞ්ඝනීයවූ උදාර වික්‍රමක්‍රමය සර්වප්‍රකාරයෙන්
26 දැනදැනත් "උපන් වැඩුනු රට එකදවසකුදු ජීවත්ව හිඳිම මැනවැ" යි සිතමින් අනික් යාසුතු මගක් නොදත්
27 තෝ "නදීපර්වත දුර්ගාදියෙන් යුක්තවූ මේ ජනපදය සතුරු සෙනගට කිසිකලෙකත් දකින්ට හෝ දෙමෝදැ" යි මෙ
28 සේ මේ ආදිය කියා සියලු රටවැස්සන් වසඟකොටගෙණ
29 සුගලානම් රාජමාතාව කරා අවුත් "මාණාභරණරජහු මළ බවිහේතුවූ යම් සොකයෙක් විද දේවිනි ඒ ශොකයතෙමේ
30 එකාන්තයෙන් ඔබගේ සිත නහමක් පෙළාවා අප ජීවත්වන කල නොයෙක් දුර්ගයෙන් යුක්තවූ අපගේ මේ ජනපදයට
31 එකාන්තයෙන් කවරෙක්නම් වදනේද" මේ ආදිබසින් ඒ රාජිනියටද හඟවා සියල්ලෝ සමගිව සියලු දුර්ගස්ථානයෙහි
32 රටසීමාව දක්වා ඇතුන්විසිනුදු කඩා කටනොහැකි බො
33 හෝ බලකොටු කොටගෙණ ඊ වටා අගල් බිඳුවා එහි යකටු බදුවූ තියුණු කටු අතුරුවා කපා හෙලනලද රුකින් මාර්ගය
34 තුදු දුර්ගම කොට පසුව රටවැසි ඒ සියල්ලෝ ප්‍රතිවිරුඬයෝව ඒකෙකී මහකොට්ඨවෙක නොයෙක් දහස්ගණන් යොධ
35 යන් ඇතිව සුදපිණිස තැසපට බැඳගත්තෝ බොහෝවූ සන්නාහ ආයුධඇතිව මහාබලඇතිව අතිශයින් සාහසිකව හිඳගත්හ.

36 සුගලා රාජිනිතොමෝද විචාරක්ෂමබුඞිනැතිබැවින්හා
37 තොමෝත් ප්‍රකෘතියෙන්ම දුෂ්ටබැවින් තියුණු ව්‍යසනයට භාගීවූ ඔවුන් බස්ගෙණ තමා අයත් මිණිමුතුආදී බො
38 හෝ වස්තුද එසේම දළදා පාත්‍ර සන්නකවූ බොහෝ වස්තුද

ගින්නෙහි බහාලනනියක් සෙයින් සියල්ල ඔවුන්ට විසඟී
39 කොට කාන්තාවනකතීනාවෂයෙහි අපණ්ඩිතවූවා තනානුරූද
අ නොමෝත් ඔවුන්ලවා රජහට පටහැණිකම් කරවන්ට
පටන්ගත්තාය.

40 අනුන්විසින් ඇක්මිය නොහැකි විකුම් ඇති පැරකුම්
නරනිඳුද එපවත් අසා ලීලාසහිත මිහිරිසිනාවෙන් සිනා
41 සෙමින් යුද්ධක්‍ෂමවූ රක්‍ෂනම් සෙනෙවියා කැඳවා එ පවත් ඇ
42 සූ පරිද්දෙන් තත්වයෙන් උහුට කියා "තෝ වහා ගොස් නැං
ගාවූ සතුරුසෙන්නැමති ලැව්ගින්න ශරවර්‍ෂා හෙළිමෙන්
43 සියලු ආකාරයෙන් නිවා ඒ දනව්ව රක්නට තැබිය යුත්
තන් තබා වහා එව" යි කියා මහබලඇති උහු යැවීය.

44 එකල කොටසර රටවැසි සිංහලකේරළයෝ වේළක්කාර
45 බලයන් සමග රැස්ව "පරාක්‍රම නරේන්‍ද්‍රයන්විසින් රුහුණු
රට ගැන්ම පිණිස ඇමතියන් සහිත ප්‍රසිද්ධ බොහෝ යොධ
46 යෝ යවන ලද්දෝල. මේ අතුරෙහි රජරට ගණිම්හ" යි
මන්ත්‍රණය කොට සියල්ලෝ එක්බස්ව මහයුද පටන්ගත්
47 හ——අවනත සියලු මිහිපලුන්ඇති පරාක්‍රමබාහු රජතෙමේ
රථවාහන බලසෙන් සහිත වීරවූ කිහිප ඇමතිකෙනෙක්
48 එහි යවා මැරියයුතු ජනයන් මරවා එහි බොහෝ ගම් ගණ
49 වැසි (භික්‍ෂූන්ට) දෙවා තවත් නොයෙක් ගම් රාජභොගාහී
කරවා එහිද පසමිතුරන්ගෙන් හටගත් භය කොසිනුත්
භයනැතත් සමනය කරවී.

50 ඉක්බිති රක්‍ෂනම් ඒ සෙනෙවිතෙමේ ඒ මහරජහු අණ
51 පිණිපා පෙරටුව හිසින් පිළිගෙණ වීරයේ මහායසස්
ඇනෙපා පොළොන්නරුවෙන් නික්ම බරබ්බලනම් පෙදෙ
52 සට ගොස් එහි වාඩිලාගත්තේය——රටවැසියන් සහිත
රුහුණු සියලු මහසේනාවෝ උහු එළඹික්‍රමය වූපරිද්දෙන් අ
53 සා "අපි ජීවත්වනතමෝ අපගේ රාජ්‍යසීමාව පැනගෙණ
මෙහි එන්ට නොදෙම්හ" යි මෙසේ කරණලද නිශ්චයඇත්
54 තෝ මහත් බලහත්කාර ක්‍රියාඇත්තෝව ස්වකීය ජීවිතයෙ
හි අපෙක්‍ෂාරහිතව යුද්ධාරම්භයෙහි ඉතා කැමතිව එතැනටම
එළඹියහ.

55 පසුව රක්ඛනම් සෙනෙවිතෙමේ ඒ සේනාව සමග රුදුරු
56 යුදකෙරෙමින් බොහෝ බලසෙන් මරවමින් ඔවුන්විසින් මා
ර්ගයෙහි සිඳහෙලනලද රුක් සිඳිමින් කටුවනනම් තැනට
57 ගොස් මහාබලඇත්තේ එහි බලකොටුවක් කොටගෙණ
උන්නාවූ සතුරුසේනාව හා යුදකොට ඒ කොටුව බිඳ තේ
58 තෙමේ ඇතුල්ව නොයෙක් දහස් යොධයන් ජීවිතක්‍ෂයට

59 පමුනුවා එයින් පිටත්වගෙණ අට්ඨබලනම් තැනට ගියේ,
එහි සිටි සේනාව සමගත් යුද කොට එහි බලකොටුවත් බිඳ
60 සියලු ඒ යුධභූමිය මස්ලෙයින් පූර්ණ කොට එයිනුත්
නික්ම සැවැත්නම් මහකොටුවද බිඳ බොහෝ භටයන් මරා
61 ඒ ඉදිරියෙහි දිවාචතුනපාබාටව (බලකොටුවෙහිද) ජටඉදි
රියෙහි ඒ මගදූලයෙහි මහපව්වෙන් ගයාණවූ මැදිමැද්
62 දෙහිද සිදගෙලනාලදනොයෙක් මහරුකින් බැසගනනො
හැක්කාවූ (මිනිසුන්ගේ) යාම් ඊම් වර්ජිතවූ මහමග ගව්
63 වක් දෙකක් පමණ දුරුවූ වෙනෙහි මතැනුත්ව සිතුදු සෙල්
විය නොහැකි මහදොරඇති අනිශයින් යානොහෙන බල
64 කොටු සතක්ද පිළිවෙළින්ම කරවා එකක්පාසා තමන්වි
සින් වසනලද බලකොටුවට (සතුරුසේනාව විසින්) "එ
65 කාන්තයෙන් වදනට නොදෙන්නම්හ" යි සර්වප්‍රකාර
යෙන් කරණලද දැඩිගිව්සීමෙන් යුක්ත පසම්තුරුසෙන්හා
66 තිපමාසයක් රුදුවල් දරුණු යුදකොට ඇමතියන් සහ නො
යෙක් දහස්ගණන් යොධයන් මරවන්නේ මහත් බලඇති
ඒ සෙනෙවිතෙමේ එහිම විසීය.
67 විරවූ පරාක්‍රම මහරජතෙමේ පොළොන්නරු නුවර වෙ
සෙමින් ඒ සෙනෙවිහුගේ මේ යුධක්‍රමය දූතමුඛයෙන් අසා
68 "ලාමකවූ දමරිකවූ උන්හා මෙතෙක්කල් සමව යුදකිරීම
සර්වප්‍රකාරයෙන්ම නොයෙදේ; මාවිසින් කියනලද උපදෙ
69 සින් දොරටුසහිත සියලු බලකොටු බිදහෙලා අනල්පවූ
සියලු සේනාව මරවා ඒ වනාන්තනය නත්වූ පරිද්දෙන්
70 කියා වහා මාවෙත එව" යි මෙසේ අඥකොට බොහෝ
යොධයනුදු දෙවමින් එම යුධ භූමිය වෙතට සංකිය රාජභ
71 වනයෙහි වසන සඟ්‍රාමොපාය කුශලවූ භූතාධිකාරිහු යැවූ
යේය.
72 ඉක්බිති ඒ මහඇමතිතෙමේ පුලස්තිනගරවරයෙන් නි
ක්ම රක්‍ෂසෙනාධිනාථයාහා කැට්ව මහබලඇත්තේ ශ්‍රීමත්
73 නරශ්‍රෙෂ්ඨයාගේ ආඥව විරුඬ නොකොට මිසම්මුවා සනාහා
74 හ කරවාගෙණ මහසෙන් සරහාගෙණ මහා යුද කොට නො
යෙක් සියගණන් බොහෝවූ යොධයන් මරවන්නේ පිළි
75 වෙළින් කරවූ සත් බලකොටු බිදුවා එයින් නික්ම කැල
76 වනනයි නම්ලද ගමට ගියාහු, නැවත එහිදු ඝොරවූ ඉතා බි
හිසුනු යුදකොට එයිනුදු නික්ම වටරක්ගොඩට ගොස් එ
77 කල එහිදී නානාදිගින් පැමිනියාවූ සතුරුසෙන් මරවා දළු
78 වඩුන්නම් ගම්හි මහයුද කොට එයිනුදු ගොස් සොහොනු
රාහම් ගම්හි මහායුද කොට එයින් රක්සෙනෙවිතෙමේ

79 ලොගගල සිටි සතුරුසේනා සාධනයට බොහෝ බලසෙන්
යවා බොහෝ යොධසහස්‍රයන් තමාවෙතද රැඳවිය.

80 මේ අවකාශයෙහි සෙනෙවි අධිකාරීන් ගණුම්හසි ආවාවූ
81 මහසෙන් මරවා හේතෙමේ පැලවි——ලොගගල් ගියාවූ
මහත් චතුරඟිනි සේනාතොමෝද එහි සිටි සතුරුසෙන්
82 කථාශෙෂ කරනුහි උන් සතු වස්තුජාතය සර්වප්‍රකාරයෙන් අ
සිඳගෙණ සේනාධිනාථයන් විසූ තෙනටම පැමිනියා. දෙ
83 සෙනග එක්ව මැදගමට ගොස් එහිද ලොගගල සිටි සෙ
නෙවි අධිකාරීන්හා “දළදාස්වාමීන්ද පාද්‍ර වරයද ගන්ට නො
84 දෙම්හ” යි දැඩිනි ඡය කොටගෙණ කටුදෙරවත් ගම්හි
85 හූන් සතුරුසේනාව හා මහයුද කොට සතුරුසේනාව මරවා
86 උදුන්දෙරට ගොස් එහි බලකොටු තනා හූන් සතුරුසෙන්
87 හා දරුණු යුද කොට දෙරටු සහිත බලකොටු බිඳ දැවිෂ්ටව
බොහෝ සතුරන් මරවා බලවාහන සරසාගෙණ ඒ ගම වි
88 සූහ——ඉක්බිති සුගලා රාජිනිතොමෝ දළදාපාද්‍ර ස්වාමීන්ව
හන්සේලා ඇරගෙණ උරුවෙල් ගියාය.

89 තවද දිගාවැව සිටි සතුරුසෙන් සාධනුපිණිස පරාක්‍රම
නරෙන්‍ද්‍රයාවිසින් බලසෙන් සහ යවනලද කිත්තිනම් අධිකා
90 රී තෙමේද කිත්තිජිවිත පුස්තකීතෙමේද අන්‍යවූ මහාද්‍රධා
91 නයෝද සරසනලද මහත් බලවාහන ඇත්තෝ එරාහුලු
දිගින් ගොස් ගිවුලබානම් ගම හූන් සතුරන්හා බිහිසුණු
92 යුද කොට එහි බලයොටුද බිඳ නොමදවූ සතුරනුදු නසා
ඉනුත් නික්ම නැවත උඩුගම් ගොස් එහි බලකොටු කොට
93 ගෙණ තුන්මසක් නිරන්තරයෙන් මහයුද පවත්වා මහ
94 සෙන් පලවා ඉන් ඉක්බිතිව ඝිහොබුනම්වූ තැන බලකොටු
95 බැඳගෙණ පරිඛා කණවා කටු අතුටගෙණ සෙනග රැස්කා
රවාගෙණ හැමකල්හි යුධයට සජ්ජිතව හූන් සතුරුසෙන්
96 හා බිහිසුනු මහයුද කොට දෙරටු සහිත ඒ සියලු බලකොටු
97 බිඳ ද්‍රවිෂටවූහ. ඉක්බිති ශරවර්ෂා වැස්විමෙන් ලංවිය නො
හැකි යුදකොට ඉනිදු නික්ම තිරිතුනම්ගම ගව්වක් පමණ
98 තන්හි පෙරසෙයින් බලකොටු බැද හූන් සතුරු සෙනග
පෙරසෙයින්ම බිඳ මහබලඇති ඔව්හූ දිගාවැනම් තන්හි
විසූහ.

99 දිඝිදර්ශීන් අතුරෙන් ද්‍රවරවූ පරාක්‍රමනරෙන්‍ද්‍රයාද එහි සිටි
ඇමතියන්ට මෙසේ හසුන් යැවිය “යුධයෙහි බිදී පලායන
100 සතුරෝ වනාහි ද්‍රවරවූ පාත්‍රා දංෂ්ට්‍රා ධාතුස්වාමීන්වහන්
101 සේලාගෙණ බියව මුහුදු එතර යන්නාහයි—මාවිසින් අසන
ලදී—එසේකල මේ ලඞ්කාවීපය හිස්වන්නේය. වැලිමේ

102 ලක්දිව්හි මිණිමුතු ආදිභෙදඇති මාහැඟි නන්රුවන්
103 වර්ගය විද්‍යමානකල්හිත් සර්වප්‍රකාරයෙන් අසදෘශවූ රුවන්
නම් ධර්මස්වාමිහුගේ දංෂ්ට්‍රා පාත්‍රාධාතූන්වහන්සේලා දෙ
104 දෙනය. තවද සාරවූ බොහෝ ධනයන් විසඳු සන්නාහ ආ
105 යුධ සහිත යොධයන් අතුරුනැතිව රැස්කොටගෙණ මේ
උතුම්වූ ලක්දිව තිරවුල් කොට සාදනානාවූ මාවිසින් කරණ
ලද මහත් ව්‍යායාමයතෙමේද ඒකාන්තයෙන් නිෂ්ඵලවන්
106 නේය. නන්රුවන් රසින් උකටින් දිලියෙන මාහැඟි කිරු
107 ළෙන් මා උතුමඟ ලකළ කළ සුමුත් මහර්ෂිහුගේ දළදා පා
ද වහන්සේලා දෙදෙනාගේ උතුම් පහස් යෙදීමෙන් පවි
108 ත්‍රනම් වන්නේය——එහෙයින් බලවාහන සහිත සියල්
ලෝ ඒකාමුබව මාවිසින් කියනලද උපදෙසගත් නොවරදවා
109 සාකල්‍යයෙන් සතුරුසෙන් ජයගෙණ වරදළදාව හා පාදව
හන්සේ වහා එවව්ය " යි කියා (හසුන් යවිය)——කීර්තිනම්
110 අධිකාරිහුද දීගාවැව් මඩල වසන්නේ ඒ රජු හසුන් හිසින්
111 පිළිගෙණ සෙනග සහිත බොහෝ ඇමතියනුදු රැස්කරවා
ගෙණ සේනානායක අධිකාරීන් සිටි තැනට එළඹියේය.
112 ඉක්බිති දුහුවමරටවැසිමහාසේනාවද වර්ගිකයෝද සියලු
ඇමතියන් කැටිව බොහෝවූ සන්නාහආයුධඇතිව යුධයට
113 සැරසීගෙණ නොපසුබස්නා වීර්යඇතිව වේගවත් අවයව
රූඇතිව උඩුන්දෙරනම් ගමටම යුදකටව්ව අවුය " අප අ
114 යත් රටමැදට වන්සතුරන් අතුරෙන් එකසතුරෙකුත් මිදෙ
115 න්ට ඒකාන්තයෙන්ම අවසර නොදී සතුරන් පලායනමාර්ග
යෙහිද බලකොටු බැඳ දෙතුන්ගව්පමණ තැන් මාර්ගයද
116 නොයාහැකි කොට සතුරන්වසන ප්‍රදෙශය හාත්පස නානාවි
117 ධ ධාන්‍යයන්ගේ ප්‍රවෙශයද වලකා සියලු සතුරුසේනාවම
දුබලබවට ගියකල ශරවර්ෂාවෙන් ලංවියනොහෙන මහාද
118 කොට (සතුරන්, මරන්නෙමුය " යි සිතා යටකී ආකාරයෙන්
මහබලකොටු බැඳගෙණ යුදලොල්ව හිඳගත.
119 ඉක්බිති භූතාධිකාරීද රක්‍ෂසේනාධිනායකතෙමේද කීර්ති
නම් අධිකාරීද රණබිම සූරුවූවෝ, මහසෙන් සරහාගෙණ
120 සතුරුසෙන් මඩනෝ, උපදෙස් පරිද්දෙන් සියල්ලෝ එක
121 ස්ව නික්මගෙණ ඉතාදරුණු යුද කොට බොහෝ හට
සනුදු මරවා ඉතිරියන් පලවා පසුව එයිනුදු නික්මුනු මහබ
122 ලැතියෝ මහරීවරනම් බලකොටුබද බිඳ එතැනින් සියල්
ලෝ නික්මගෙණ වොයලගමුනම් තැන රැස්ව යුධදක්‍ෂවූ
123 වෝ වාඩිලාහත්හ——ඊට ඉදිරියෙහි සමන්ගල්නම් පෙදෙ
124 ස හුන් සතුරුසෙනාග යටකී ආකාරයෙන් බියකරු යුදෙහි

125 දී මරා ඉන් ඉක්බිති බදගුණ නම් තැන හුන් සියලු සතුරු
126 සෙන් බිඳ ඉක්බිතිව උරුවෙල්මඬුලුතැන්හි බලකොටු බැඳ
ගෙණ හුන් සියලුසෙන් මහයුදෙහිදී බිඳ ප්‍රවර දංෂ්ට්‍රා
127 පාත්‍රාධාතූන්වහන්සේලා ගෙණ මහසෙන්විසින් පෙරටුක
රණලද්දේ එහිම විසූහ,

128 එකල මාණාභරණරජහු සාමන්ත භූරුබැදෙව්නම් දුර්
129 බුඩිවූ ඒක් සෙනෙවියෙක් පරාක්‍රමබාහු මහරජහු විසින් දඟ
ගෙහි හැකිලි බැම්මෙන් බඳවනලද්දේ දම්බිඳගෙණ පලා
130 ගොස් රුහුණට වන. ඉක්බිති (පැරකුඹා) නරපල්තෙමේ
මඤ්ජුඅධිකාරීන් අනවා (කියන්නේ) "භූරුබැ සෙනෙවියා සිය
131 රටට පලාගියේය; හේතෙමේ යම්තාක් එක්තැනෙක දැඩි
මුල් ඇතිනොවේනම් එතාක් තාවිසින් යායුතුය" යි කියා න
132 රේශ්වරතෙමේ උගු යැවී. හේතෙමේ පොළොන්නරුවෙන්
නික්ම සාපත්ගමුනම් තැනට ගොස් එහිදී සතුරුසෙන්හා
133 මහයුද කොට එහිදී බොහෝ යොධයන් මරවා බලකොටුව
කුඩු බැඳගෙණ මහාසේනාවවිසින් පෙරටුකරණලද්දේ තෙ
134 මේ එහිම වාඩිලාගත——එකල්හි සියවගවැසි සියල්ලෝද
බොහෝ දූමරිකයෝද බාලදරුවන්දක්වා රටවැසි සියල්ලද
135 පෙරලා "අපි ප්‍රාණයත්‍යාග කරනනමෝත් දංෂ්ට්‍රා පාත්‍රා
ධාතූන් දෙදෙනා සර්වප්‍රකාරයෙන් ත්‍යාගනොකරන්නෙමු
136 ය" යි මෙසේ කොටගත්නියම ඇතිව කෙලෙසුනු චිත්තසම්
කල්පනාඇතිව, දැඩිමන්වසඟවූ ඒ සියල්ලෝ බත්සූනම් ග
මට රැස්වූහ.

137 එකල රක්සෙනෙවිද කීත්තිඅධිකාරීද එසේම භූතාධිකාරී
ද අන්‍යවූ බොහෝ සාමන්තයෝද සතුරුසේනාහා බිහි
138 සුනු යුද පවත්වන්නෝ දෙදෙනෙකුවිසින් එක් මගෙක
යන්ට නොදෙන්නෝ යුධක්‍ෂමවූවෝ දළදා පාදා ගෙණ රාජ
139 ගෞරවයෙන් මහපූද පවත්වමින් කොඩිනූත් බිය නොව
නික්මුනාහ.

140 එකල දෙමටවල්නම්තැන සියලු සතුරු සේනාතොමෝ
සන්නාහසන්නද්ධව ගත්තාලද ආයුධ ඇතිව වහාම වැව්නම්
141 තැන වසන්නා සියලු අතින් අවුත් බිහිසුනු ලොමුදහත් මහ
142 යුද පැවැත්වී. සෙනෙවිනාආදිවූ ඒ ඇමතියෝද දරුණු
143 යුදෙහි මරණලත් මිනිසුන් සිරුරෙන්ද දමනලද ආයුධයෙ
න්ද හාත්පසින් පදනික්ෂේපයට අවකාශ නොදෙනෙනා
144 එ තැනින් ප්‍රවර දාඪා පාත්‍රා ධාතූන්වහන්සේලා ගෙණ
සප්පනාරුකෝත්තිල්නම් ගමට පැමිනියහ——එකල්හි රක්
145 සෙනෙවිතෙම අතිසාරයෙන් මිරිකුණේ කම්වූ පරිද්දෙන්

පරලොව ගියේය. සියලු සංස්කාරයෝම නස්නාසුලුහ.
146 එකල මඤ්ජු කීර්ත්තිනම්ඇති ඒ අධිකාරීහු දෙදෙනා ඒ සෙ
නෙවිරත්හුගේ තනතුරට සුදුසුවූ ගෞරවය නොවරදවා
147 ප්‍රෙතකෘත්‍ය කරවා, උත්සාහසම්පන්න ඒ සෙනෙවියා මළකල්
හිඳු නරශ්‍රෙෂ්ඨයා දුරසිටිකල්හිඳු හිමවික්‍රම සම්පන්න එම
148 ධරණීශ්වරයාගේ ප්‍රභාවාතිශයෙන් සියලු සෙන් එක්කොට
ගෙණ කිසිවක්හුගේත් කිසි සඞ්ක්ෂොභයකට අවසර නො
149 දෙන්නෝ (දංෂ්ට්‍රා පාත්‍රාසඞ්ඛ්‍යාත) ධාතුද්වයාමින් දෙනම්මටද
මහත් පූජාපවත්වන්නෝ ඒ හසුන් ශ්‍රීමත් නරෙන්ද්‍රයාහට පමු
150 නුවා විරවූ ඔව්හු කිහිපදවසක් එහිම විසූහ.—එපවත් අසා
කෙලෙහි ගුණදන්නවූන් අතුරෙන් ප්‍රවරවූ (කෘතීනාවතක
151 ත්වාවෘ) විභාගදන්නවූන් අතුරෙන් ප්‍රථමවූ පරාක්‍රම මහීපා
ලතෙම අණවමින් " යම්පෙදෙසක ඔව්හු ඒ සෙනෙවියා දැවූ
152 නම් එහි සතරදොරක් ඇති මහත් දන්හලක් කරවා සතරදි
ගින් එන දුප්පතුන්ට මහත් දන්වැට තබව්ය " යි පූජාපිණිස
153 හසුන් යැව්. ප්‍රධානයෝ දෙදෙනාද සතුටුවූවෝ ඒ ඇණවීම
154 විධිවූ පරිද්දෙන් නිමවා ක්‍රමදන්නෝ එහිම හුන්හ.—ඒ
155 කල්හි ඒ දමරිකයෝ සෙනෙවිනාමළහෙයින්ද ගුරුබැසෙ
156 නෙවිනා ලත්හෙයින්ද (මේඅතුරෙහි) ජයපිණිස උත්සාහ
157 කරමුය " යි සිතා ඒ සියල්ලෝ ගුත්හල්මඬුල්ලට ආහ.

එපවත් අසා පරාක්‍රාන්තරජහුගේ ඇමතියන්සහිත මහත්වූ
සතුරන් බලමිරිකන්නාවූ සේනානොමෝ නොයෙක් තන්හි
158 මහයුද පවත්වනණි සියලු අතින් ගුත්තල්මඬල අභිමුඛව්ය.
159 එකල්හි ඒ සියලු දමරිකයෝ ඒ ගම හැර හයින් මාගම් ම
ඬුල්ලට පැලහ.—පරාක්‍රම මහීපාලතෙමේ ඒ පවත් අසා
160 " දංෂ්ට්‍රා පාත්‍රාධාතූන් දෙදෙනා ගමින් ගමට ගෙණෙන්නන්
විසින් යුධකිරීම එකාන්තයෙන් සර්ව්ප්‍රකාරයෙන් මට නුරුස්
161 නේය. වහා මාවෙත ධාතුයුගලය එවව්ය " යි ලංවිය නො
හෙන පැරකුම් ඇත්තේ දූතයන් මෙහෙයී;

162 සෙනෙවි අධිකාරීහු ඒ හසුන් අසා දළදා පාදුවහන්සෙලා
163 පොළොන්නරු නුවර යවනුකැමැත්තෝ එක් සාමන්තයෙක්
164 ආරක්ෂාවෙහි යොදා කිතුල්වල්නම් ගමින් නික්ම කිරිගම්
හිඳී සම්ප්‍රාප්ත සතුරුසේනාව හා පෙරසෙයින් බිහිසුනු යුද
165 කොට උන් ඔබිනොබ පලවා කිරිගමට වැද ඔව්හු එහිදීද
166 මහයුද කොට බොහෝදෙන මරවමින් දුහුදු නික්ම තණ
167 ගලද සුවගිරද කටදොරවැද ඛගලද සහල්පතද එසේම් මහ
යුද කොට මහපූජාවෙන් උපලක්ෂිතව දළදා පාදුවහන්සේ
ලා දෙදෙනා ගෙණවුත් මඤ්ජුනම් අධිකාරීහු වෙත යවූහ.

168 සාපත්නම් ගම්හිද ලොගගලද අනල්ප භටයන් මරවා
169 දුනුමඩලාවෙහි සියල්ලන්ද වසඟකොට එහිසිටි හේතෙමේ
දළදා පාත්‍ර වහන්සේලාට පෙරගමන්කොට රුදෙවෙහි මහ
170 පූජා පවත්වන්නේ අදුන්කම්නාවන් ධාතුරක්‍ෂායෙහි යොදා
171 ධාතුයුගලය මහරජුවෙත යවා එයින් නික්ම බෝකුසල
නම් ගමට ගොස් මන්ත්‍රණක්‍ෂමවූයේ සියලු ඇමතියන්හා
172 මන්ත්‍රණකෙරෙමින් "මේ වෛරීහු ප්‍රදේශකුශලයෝය ත
මන් වෙතින් අප බැහැර ගියකල ඔබ්නොබ පලාගොස් අප
173 විසින් සාදනලද තැනට වැද වසඟකළ ජනයා පෙළනි අප
174 ගේ ස්‍වාමිවූ ජගදීශ්වරතෙමේද ස්‌ථිතීය උපදෙශය වරදවා
මොනවට සාදනලද රජය පවා දනනාලද යුද්ධක්‍රමඇත්තේ
175 තෘණපතටත් නොතකන්නේය. එහෙයින් ශ්‍රීමත්උන්වහන්
සේගේ උපදෙස්ම පූදනනාමෝ (අපවිසින්) වසඟකළ තෙ
176 නට එව්හු යම්පරිද්දෙකින් නොවදිද්ද, එසේ ඒ ඒ තැන්
හි සාමන්තයන් සහිතවූ බොහෝ සෙන් වෙන් වෙන්කොට
177 තබා සියලු වෛරීන් සුන්මුල් ඇතිකොට සවාමිහුගේ චරණ
178 පද්මය හිසින් උසුලන්ට අපි යන්නෙමුය" යි නිශ්චයක්‍ෂම
ප්‍රඥාඇත්තේ නි ශ්චය කෙළේය. ඉක්බිති සියලු ඇමතියෝ
ඌහු බස් පිළිගෙණ යුද්ධක්‍රමයෙන් මහසෙන්ගෙණ පිටත්ව
179 නොයෙක් මාර්ගඇති වැලිවැසරගමට පැමින එහි බොහෝ
180 වෛරීන් ජීවිතක්‍ෂයට පමුනුවා එයින් නික්ම බලගල්නම්
තැන බලකොටුවක් කොට පසුව එහි තිනිතිය ලඞ්කාපුරය
181 යන දෙදෙනාහා අනිත් චතුරඟිනී මහත් සේනාවක්ද සි
ටුවා සියලු ඇමතියෝද ප්‍රධානීහුද මහාබලසේනාවෙන්
182 පෙරටුකරණලද්දාහු දිගාවැමඩුලුනම් තැන්හි සිටි බොහෝ
දාමරිකයන් සාදනුවට මහත්බලඇති ඔව්හු (රාජ) ආඥා
පරිද්දෙන් පිටත්ව ගියහ.
183 ඉක්බිති දිනනලද(සතුරු) රජුන්ඇති පරාක්‍රමබාහු රජතෙ
මේ දුරිභූත සතුරුවියවුල් ඇතිසිත්කාළු පොළොන්නරුනුවර
184 වසන්නේ ශ්‍රද්ධාබුද්ධිගුණයෙන් උපගතවූ නානා පුණ්‍යෘද
යෙන්ද උපලක්‍ෂිතව මධුරක්‍රීඩා විනොදනයෙනුදු නවනාට්‍ය
185 රසඳන්නවූන්ට අග්‍රෙසරව දවස්යවන්නේ ධාතූන් වඩා අා
ක්‍රමය අසා පරමසනොනාෂප්‍රසාදයෙන් සම්පූර්ණ සිත් ඇත්
186 තේ "මමයයි යන යමෙක් මුනිරජුගේ මේ ධාතුයුගමය දැකී
මටහා නිසෙවනයට ලැබුයෙම්නම් අහෝ ඒ මාගේ මහත් ලා
187 භයෙක, මාගේ ජීවිතය මනාකොට ලබනලද්දේය, රාජ්‍යසා
ධන ව්‍යායාමයෙහි උතුම්ඵලය මාවිසින් ලබනලද්දේය" මේ
ආදී වදන් කියමින් මොනවට ස්නානය කොට මොනවට

හැන්දේ මනාවිලවූන් ගත්තේ මොනවට සැරසුනේ සැර
සෙනලද රජකුමරුවන්හා ඇමතියන් පිරිවරණලද්දේ
188 තරුකැලන්විසින් වෙළනලද සරත්චන්‍ද්‍රලීලායෙන් මහ
189 පින් ඇත්තේ යොදුනක් පමණතැන් පෙරගමන් කොට ප
ළමුවෙනි දැක්මෙහිදී විසිතුරු අබරණින්හා මිණිමුතු ආදී
190 නන්වැදෑරුම් මාහැඟි රුවනින්ද නොයෙක් දුම්න්හා පහනි
න්ද සුවඳමලින්හා නන්සුවඳින්ද සත්පුරුෂයන්විසින් පසස්
191 නා ලද්දේ පූද දිවම්නු බුදුන්කෙරෙහි සෙයින් දක්වනලද
ආදරඇති වීරතෙමේ නිරතුරු සතුටු කඳුලු දහර හෙලන්
192 නේ සිතහටගත් පහන්බැවින් බැහැර ලියලූවා බඳු රෝමු
දෙහෙන් සියල් සියගත හොබවමින් මහාප්‍රීති ප්‍රවාහයෙහි
193 සියමනස ගල්වමින් අමාරසදහරින් තෙමූ ගතින් යුක්තවූව
194 කුසේ ධීරවරතෙමේ හිසින්දළදාවරය උසුලන්නේ හිසින්අඩ
සඳ දරණ චන්‍ද්‍රශෙඛර ලීලාඇත්තේ එක්ව ආ සියල්ලවුන්ට
195 ධාතුයුගලය දක්වමින් මොනවට අසනලද ආගමඇතෙත්
ඒ ධාතුන්ගේ ප්‍රභාවය ප්‍රකාශකෙරෙමින් මහාපැණඇති
196 ඒ රජතෙමේ උත්ලවාද මහත් පූජාකරවා නරෙශ්වරතෙමේ
ධාතුයුගලය එහිම තබ්බවා මොනවට ගොපනය කරණ
ලද සියලු ඉඳුරන් ඇතෙත් ඊට මහත් ගොපනායද කරවා
197 නානාප්‍රකාර පූජ කරන්ටත් නියොග කොට පහන් බැවින්
198 යුක්තවූ සිත්ඇත්තේම ඇමතියන්හා පිරිස්සහිතව මහ
බඹහු බඹවිමනට සෙයින් සියමැදුරට පෙරලා ආයේය.
199 ඉක්බිතිව නුවරමැද මනා දළදාගෙයක් මොනවට බෙ
200 දනලද සුදම්සබයසේ හොබවා රජගෙදෙර පටන් යොද
201 නක් තැන් මග ඇතුල්තලයක් සෙයින් සමතලා කරවා
සියලු සතුන්ගේ වැඩෙහි ඇළුනේ හැමතැන්හි සිතියම් ද
රන්නාවූ ලොකානන්දහේතුවූ තොරන් කරවා තොරන්යට
202 නන් කුසුම්දම් එලෙන විසිතුරු වණීපරම්පරාඇති පුළුල්
203 වියන් පැලලි බඳවා තොරන්ටැම් එකක් පාසා නන්වනින්
204 වසාබැඳ ඒ ටැම්මුදුනුත් ඡත්‍රචාමර පන්තින්හා නානාපුෂ්ප
කලාපයෙන්ද විසිතුරු කොඩියෙන්ද පූජවටසුදුසු අනඝවූ
205 දෙසින්ද සරසා මාගීයාගේ උභයපශ්චියත් පලදරණ තැ
ඹිලි කෙසෙල් පුවක් පොල්ගස් ආදියෙන් හොබවා මනාමල්
206 කලඹින්හා පුන්කලසින්ද නොයෙක් ධජපතාකාවෙන්හා ප
207 හන් දුම් ආදියෙන්ද සරසවා ත්‍රිදශෙන්ද්‍රයාගේ සුදසුන් වෙය
සෙයින් මාගීමාගීදෙක්හි විචක්ෂණවූ රජතෙමේ මාගීයත්
208 අලඞ්කාර කරවා දළදාගෙදෙර මාලකයත් අලකානුවරසේ
සත්පූරුෂයන් සතුටුකිරීමෙහිසැකිවූ චතුර රජතෙමේ එක

209 ණෙහි සරසවා ඉක්බිති පෘථිවීශ්වරතෙමේ මාහැඟි එක් මහ
210 මිණිරුවනක් කණවා සුවඳසුණින් පුරවා රාෂ්ට්‍රවර්ධනයට
හේතුවූයේ වරදළඳුව එහි වඩා ඒ මිණිරුවන රුවන්මුවා
211 කරඬුවෙක තබා ඒ කරඬුව මාහැඟි රන්මුවා කරඬුවෙක
තබා ඉක්බිති ඒ පාදුවද මාහැඟි කසුන්මුවා නන්රුවන්
212 රැසින් වොරජනා සිත්කළු දෙව්දුනුබඳු සක්සතරෙක්හි පිහි
213 ටි ලහිරු රස්පිඩක්බඳු ඉතා සිත්කළු මඩුවෙක්හි මොනවට
214 පනවනලද මගඟුඇතිරිලි අතුළ අස්නෙක්හි සුවඳමල් ඇ
තිරියෙක වඩා ඡත්‍රචාමර ඛඞ්ගාදීන් ගත්අත්ඇති ලඞ්කණී
215 යන්ද අනාථවූ මහා කුලවතුන්ද මඩුව හාත්පස්හි ලද්දෙය
සංරක්‍ෂණයෙහි සමර්ථ රජතෙමේ ආරක්‍ෂායෙහි තබබවා ඒ
216 මඩුව පිරිවරා මාහැඟී නොයෙක් සියගණන් මඬපයන්හි
217 සර්වාහරණවිභූෂිත විණා වස් කුලල් මිහිඟුබෙරආදිය ගත් අත්
ඇති ජනයාවිසින්ද දිව්‍යගන්ධර්වස්ත්‍රීන්සදෘශ ගන්ධර්වස්ත්‍රීසමූහ
218 යන් විසින්ද පෙරටු කරණලද්දවූ නාටකස්ත්‍රීන් වෙන් වෙන්
කොට සිටුවා එවුන්ගේ නැටුම්ගීයෙන් වැයුමෙන්ද පූදන්
219 නේ නන්කුසුමෙන් දුමින් නන්වැදෑරුම් ගඳින් සියලු නුවර
220 සුවඳකවමින් බොහෝ ජනයන් පිනවමින්නොයෙක් පහන්
දහසුන්ගේ අළුයෙන් හාත්පස සියලු දිගුන්හා එසේම විදිසා
221 වන් එකළුකොට ඡත්‍රචාමර පන්තීන්ද විචිත්‍ර ධ්වජපන්තීන්ද
නානා වර්ග පතාකාවෙන්ද සියලු අහස් (කුස) වසමින් ඇතුන්
222 ගේ කුංචනාදයෙන්ද අසුන්ගේ හේසාරවයෙන්ද රථයන්
ගේ චක්‍රනාදයෙන්ද හෙරීන්ගේ හාංකාරයෙන්ද සියලු
223 මංගල සඞ්ඛයන්ගේ මනොහර ශබ්දයෙන්ද කාහලයන්
ගේ ශබ්දයෙන්ද වන්දීන්ගේ ජයඝොෂාවෙන්ද සාධුකාරධ්ව
224 නියෙන්ද ආස්ඵොටන රවයෙන්ද එසේම උක්කුට්ඨි ශබ්ද
යෙන්ද සියලු දිගුන් දෙඩමලුකෙරෙමින් මහිපල්තෙමේ සර්වා
225 හරණයෙන් විභූෂිතවූයේ රන් සැත්ආදියෙන් සැදුම්ලද ප්‍ර
226 වර ශොභාඇති ඇතෙකු නැඟී නොයෙක් වාහනාරූඪවූ
ඇමතියන්විසින් පිරිවරණලද්දේ මහත්වූ රාජානුභාවයෙන්
227 ප්‍රවර නගරයෙන් නික්ම දළඳාස්වාමීන්හා උතුම් පාත්‍රාධා
න්වහන්සේවෙත ගොස් මොනවට ඉසෙහි ඇඳිලි බැඳ සු
228 වඳමලින් සියඅතින් මොනවට පුදමින් ධාතුයුගලය ගෙණ
ඒ රජතෙමේ මගට පිළිපන.

229 එකල ගැඹුරුහඬින් පටහහෙරීන්ගේ ස්වරය දික්කෙරෙ
මින් ඉන්ද්‍රචාපකලාපයෙන් නභස්තලයහොබවමින් ආලො
230 ක සහිත විදුලින්ද ඔබ මොබ වගුරවමින් ශිඛිමණ්ඩලයාගේ
231 අබ්බතාණ්ඩවයට උපදෙසකවූ අසුන් කුරපහරින් උස්ව නගන

ළද ධූලීන් හා සමග හිරුහුගේ රශ්මිපන්තීන් අන්ධකාරකො
332 ටගෙණ සියලු ආකාසතලය අඳුරුරැසින් මුවහකෙරෙමින්
(දිගුබිත් වසා) පැතිරගෙණමහත්වූ අකාලමෙඝයෙක් ආය.
233 සියලු ඇමතියෝ ඒ දැක මහපෙරහර පිළිබඳවූ ඝනවෂ්‍ර්ෂාව
වස්නේයයි නැවත නැවත සිතනෙනා් මහාන්දුක් අයත් සිත්
234 ඇත්තෝ මහපැණැති ඒ මිහිපල්හු වෙත එළඹ " මෙහි කු
235 මක් කටයුතුදැ"යි විචාළහ.—එකල්හි ඒ මහරජතෙමේත්
සවකීය තෙජස් ආධික්‍යයහා මහර්ෂිහුගේ චින්තාවිෂයාතික්‍රා
236 න්තවූ ආනුභාවයත් දන්නේ " තෙපි වූකලී නාහමක් සිතව්,
මිනිසුන් දෙවියන් සිත්ගන්නාසුලුවූ අද්භූතවූ මෙබඳු මහත්
237 පූජාවක් පවත්නේමය; මහපිනැති මහපැණැති මහතෙ
දැති මහයසැති ලංවියනොහැකි පැරකුම්ඇති මමද නික්
238 මිනිම්; මෙහි කවරදෙවියෙක් කවරමාරයෙක් මාවිසින්
පවත්වනලද ඉතා උසස් පූජාවට බාධාපිණිස අන්තරාය
239 කර වන්නේද (නොවන්නේමැයි) ; ධාතුයුගලය වඩාගෙණ
කිසි සැකයක් නොසිතා ඒ තෙපි නික්මෙව්ය " යි කියා නුව
නැති රජතෙමේ නික්මින.
240 එකල්හි ඒ මහාමෙඝය තෙමේත් උත්සවස්ථානයෙන් බැ
හැර වැසිදහරින් දැඩිගංවතුරු ඇත්තේ සැමතන්හි වැව්
241 පූරවමින් තෙමේ මහපූජාව ඉදිරිවූයේම ඉදිරි මාර්ගයෙහි ධරා
පරාගමාත්‍රයක්ම දැශමයට යවන්නේ වටුයේයි—ඒ අද්
242 භූතාය දැක සියලු නුවර වැස්සෝද ප්‍රියසිලී නොයෙක් සියග
243 ණන් භික්ෂූහුද රැස්ව " සතුරන් දමනය කරන්නාවූ මේ
244 රජතෙමේ මහානුභාව ඇත්තේමැයි, ඒකාන්තයෙන් අපගේ
මහත්වූ පිනකින් ලක්දිව්හි පහළවූයේය" මේ ආදීවූ විස්ම
245 යාතිශය වදන් කියන්නෝ මහත්වූ සතුතිඝොෂාවෙන් සියලු
දිගුන් පිරවූහ.
246 ඉක්බිති ඒ ධරණීපාල තෙමේ පෙරනොදක්නාලද නො
247 අසනලද මෙබඳුවූ ආශ්චර්‍ය්‍යපරම්පරාව කියවමින් සවකීය
ආනුභාවයට සුදුසු මහසැණකෙළි පවත්වමින් දළදාපාත්‍ර
248 වහන්සේලා දෙදෙනා දළදාගෙට වඩාගෙණවුත් නුවනැ
ති වීරතෙමේ සියලු පුලස්තිනගරයෙහි සත්රැයක් සර්වලො
කෛකාදිපායමානවූ හේතෙමේ දීපපූජා කරවිය.
249 මෙමසේ අවලොකනයකරණ ජනයාගේ දැමොද මදවිස්මය
සම්භ්‍රමයන්ට ඒකහේතුවූ මහත් වරධාතුපූජාවක් අවනත
භූමිපාලයන් ඇති පරාක්‍රමබාහුනම් රජතෙමේ මනාකොට
කරවිය.
මෙතෙකින් සුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවංස
දන්තධාතුමහනිඥසනාමිවූ සූ සැත්තෑවන අදියර නිමි.

# 75 වෙනි පරිච්ඡෙදය.

---

1 එකල්හි මහබලැති සියලු ඇමතියෝද ප්‍රධානීහුද දීගා
2 වැමඩුලුරට ගන්ට නික්මුනෝ සෘවනාවිසලනම් තන්හි මහ
යුද කොට එහි දෙලොස්දෙරටුවක් ඇති බලකොටුව සර්‍ව
3 ප්‍රකාරයෙන් බිඳ ඉන් ගොස් ගොමගමුනම් තැනද සගම
4 නම් බලකොටුවෙහිද බලගලද මහත් යුදකොට සතුරු
සෙන් බිඳ බලගලනම් බලකොටුයෙහි බලවාහනසහිත
5 ඒ සියල්ලෝ වාඩිලාගත්හ—ඉක්බිති ඇමතියෝද ප්‍රධා
නීහුද එසිතුදු නික්ම මල්වතු මඩුලෙලහි මහ යුද කොට
6 වටගම්පහණද මූලුතනම්ගමද සෙන්ගොත්නම්ගමද බො
7 ල ගමුනම් තැනද වඳුරගමද ගලලම්බතීක ගමද ඒ ඒ
8 තැන බිහිසුනු ක්‍රමඇති මහ යුද කරනෙනෝ කිතුල්වල්ගමු
නම් ගමට ගොස් හාත්පස තුන්ගවුපමණ තන්හි බොහෝ
9 ආවරණසහිතවූ මහබලකොටුවක් කොටගෙණ හූනාවූ
10 සතුරු සෙන්හා මහයුද පවත්වා බොහෝ හටයන් මරවා
සතුරන්ට භයඋපදවමින් ඔව්හු එහිම වාඩිලූහ.

එකල්හි සියලු දමරිකයෝ "මුළුරට වසග කරණලදුව
11 ගණුම්හ" යි දීගාවැමඩලට නික්මුනාහ. කිතුල්වල් ගම්හි
සිටියාවූ ඇමතියෝද ඒ විධාන තත්වූ පරිද්දෙන් අසා බො
12 හෝ හටයන් යැවූහ. ඒ සියල්ලෝ දෙරැයකින් විසිගවු
13 පමණ මග ගෙවාගොස් මහයුද කොට සතුරන් මරා නැව
ත යුඩයක නිරුත්සාහවන පරිද්දෙන් භයකොට දීනුවාවූ
14 ඔව්හු එතැනටම පෙරලා අවුය—එකල්හි සියලු ඒ ඇම
15 තියෝ එම ගම්සමීපයෙහි ඇපාදෞඪකඩනම් තැන බල
කොටුවක් කොටගෙණ ගුත්හල මඩල ඕපිවෛරීන්හා
16 මහා යුදකොට එසේම සොරඹගමුවෙහිද නැවත මූලානගම්
17 හිද එසේම හූදලුම්ඩලද යනාමේ ගම්වල මහයුද කොට
18 කිතුල්වල්ගම්නම් තැතින් පිටත්ව කිත්රජවැලිගම්හි යුද
කොට උළදූනම් තැන්හිද වැලිකාසානම් ගම්හිද බිහිසුනු
19 යුද කොට ඉක්බිති හුයලගම්හි යුද කොට බොහෝ සතු
රන් මරමින් වාඩිලා හූන්හ.

20 ඉක්බිති පෙර රජුන්විසින් වසනලද මානාකුලනුවර රා
ජ ධානි කරණුපිණිස (පැරකුම්බා) මහරජහු විසින් යවන
21 ලද්දාවූ රක්ඛනම් දෙමළ අධිකාරීතෙමේද රක්ඛ කඤ්චුකී

22 නායකතෙමේද මහත් සේනාව සරසාගෙණ යුද්ධකටවිව නි
ක්මුනාහ. පසුව රක්ඛකඩුනි නායකතෙමේ පස්යොදුන්
23 රටවැසි දේවරාජනම් කොස්දනාවත්ද මහසෙන්ද යවා එහි
සිටි බොහෝ සතුරන් විනාස කරවා පසුව ගිම්හතොටනම් ගම
24 රාජධානියක් කරන්ට; කරණලද නොයෙක් බලකොටුවල
වාඩිලා හුන් සතුරන් බොහෝසෙයින් කථාශෙෂ කොට විධා
25 නයෙහි පඩිතවූයේ යුඬයෙන් කලාන්තවූ සෙනග විශ්‍රාම
කරවන්ට විරවූ හේතෙමේ එහිම කිහිප දවසක් කල් ගෙවීය.
26 එකල්හි ඒ මේ සතුරෝ මහදුකින් පෙළෙනලද්දාහු සිය
ලලෝ රැස්වගෙණ නැවත දැඩියේ මෙසේ සිතූහ. "පරාක්‍රම
27 නරෙන්ද්‍රයාගේ කල්‍යාණතාවහනිය බඳු තෙජසතෙමේ මූළු
28 දඹදිව රජුන්විසිනුත් නොඉවසියහෙයි ගජබා රජතෙමේද
මාණාභරණ රජතෙමේද යන යුඬොපාය දන්නා මේ රාජශ්‍රෙ
29 ෂ්ඨයෝ දෙදෙනා මහසෙන් සරසා බොහෝ වස්තු වියදම්
කොට රු දෙවෙහි අනෙකාකාරයෙන් යුද කරන්නෝ ඒ රජ
30 හුගේ ජයබෙරහඬ අසා දුරින්ම බිඳුනාහු හිරු උදකල කන
මැදිරියන් බඳුව සියරට වසන්ටත් නොහැකිවූවෝ හයින්
31 පෙළුනාහු අනික් ගතියක් නොදක්නාහු යමරජුම ඇසිරු
32 කළහ ------ අපගේ බලකොටු හැර අන්‍යවූ ආරක්‍ෂාස්ථාන
යක් විද්‍යමාන නොවේ, සියලු ආකාරයෙන්ම මේ රටතෙමේ
33 ගිරිදුර්ගාදියෙන් ශූන්‍යය. එහෙයින් සියලු දුර්ගයන්හි බො
හෝ අවුරුණු කොටගෙණ සියලු ප්‍රසිඬ මහාමාර්ගයන්ද
34 යානොහෙනු කොට බොහෝ සොරමාර්ගයතුදු කොට රට
දුෂ්ප්‍රවෙශබවට ගියකල රැස්වගෙණ යුඬ කරම්හ" යි (මන්ත්‍ර
35 ණයකොට) පසුව සියලු දාමරිකයෝ තුමූ එක්මුවව ගාථනදි
යගේ මුවදෙරට යුද කැමතිව පැමිනියහ.
36 ඉක්බිති කඩුනිනායකතෙමේ එපවත් අසා එහි පැමින
37 මහයුද පවත්වා ඔවුන් පැලවී. යුදෙහි බුන් ඒ සේනාතො
මෝ මහවැලිගම්හි හුන් සතුරන්හා හැමඅතින්ම සමාගම්
38 වීය ------ වැලි කඩුනිනායකතෙම සියසෙන් සතප්වාගෙණ
39 මහවැලිගම සිටි සතුරන්හා යුදකරණුපිණිස (එතනින්)
පිටත්ව ඒ සියලු සතුරන් මැඩපවත්වා යුඬාගනය ගුරුළන්
40 විසින් පහරණලද නාලොවසේ කොට එතනිනුදු ඔවුන් දිවි
යෙකු බොහෝ මූවන්සේ පලවා ජයගන්නා සුලුවූ මහබල
ඇති හේතෙමේ එහි වාඩිලාගත ------ ඉක්බිති ඒ කඩුනි
41 නායකතෙමේ වැලිගම වෙසෙමින් අජ්ඣාත්තචින්තායෙහි
42 විචක්‍ෂණවූයේ මෙසේ මන්ත්‍රණය කෙළේය. "මේ සතුරෝ
නොදන්නාලද දහනක්‍රමඇති පළහැටියන් සෙසින් බො

හෝද්ධූවෝ එහිම දක්‍ෂලබම්න් අතිශයින් විනාශ වන්නාහ.
43 මුන් නටකල රටද වනයක් බඳු වන්නේය. මොව්හූවනාහි
44 අප රජ්ජුහුගේ දයාබහුලබව නොදනිති මෙතැන් පටන් යම්
සතුරුකෙනෙක් අප වසයට එත්නම් උන්ට අභය දෙවා
45 රක්‍ෂණය කටයුතුය” යි (මනත්‍රණය කොට) පසුව රටවැසි
නිසිවෙකුට හසුන් (යවනෙන්) “යමෙක් යමෙක් ජීවත්වනු
46 කැමැත්තේනම් ඔව්හූ මාකරා එත්ව” යි කියා යැවීය. ඒ අසා
සිය පණහා සිය දන කැමති වැලිගම්වැසි වෙළඳුන්හා
47 බොහෝ පටුන් වැස්සෝද අත්‍යවූ රටවැස්සෝද හාත්පසින්
අවුත් බියෙන් මිරිකුනෝ රක්‍ඛකඤ්චුකීනායකයා දුටහ. ඉක්
48 බිති ඒ කඤ්චුකීනායකතෙමේ දෙව්නුවරද එසේම කඩිරුගමු
49 මුවෙහිද මහාපනාලගමද මානාකපිටිගමද නිල්වලාගංතෙ
රද කෙහෙල්පත්නම් ගම්හිද යනා නොයෙක් තැන සිටි
50 සතුරන්හා ක්‍ෂත්‍රියයොධයන් යවා බොහෝ යුද කරවා ඒ
ඒ තැන ජය ලැබ සම්ප්‍රාපතවූ ඔවුන්ට අනුග්‍රහ කෙළේය.
51 එකල්හි සියලු දමරිකයෝ “වෛරීන්ගේ ද්‍රබලබලයට
මාකෙතනම්නැන (මාවැලල?) නදිය එතරව යුදකරන්ටනො
52 දෙන්නෙමුය” යි නිශ්චය කොටගෙණ ඔව්හූ එයින් නික්ම
මහත් සාහසිකවූවෝ තුමූම හෝතෙරට පැමිනියහ.
53 කඤ්චුකීනායකතෙමේද එපවත් අසා ඒ බලසෙන්හා එහි
54 ගොස් සතුරන්හා යුදපිණිස සියසෙනග යැව්ය. පසුව උභය
පාර්ශ්වකවූ මනාභටයෝ ගගමැද රළුයුද කළහ. එකල දෙ
55 සෙනාවන්ගේ යුඩය මුහුදෙන් නැංගාවූ දනවයන්හා දෙ
56 වියන්ගේ යුඩසෙයින් බිහිසුනු විය. එකල ඒ මහාවිරයෝ
57 වනාහි ඒ සතුරුමහසෙන්හා යුඩකරන්නෝ මෙසේ සිතුහ.
“මුන්හා සමසංග්‍රාමයනම් පරාජයක් වැනාන අපගේ ස්වාමිවූ
58 රජ්ජු තබා ඒ කඤ්චුකීනායකතෙමේත් මෙපවත් ඇසූයේවිනම්
අපට මහත් නින්දය මේ සතුරන් කිලිල්කඩ සෙයින් සිඳ
59 හෝදියෙහි හෙලා මස්කැස්බත් බත්කරන්නෙමු උන්ගේ
ක්‍ෂුධා දුරුකරනෙනමු නොහොත් අපිහෝ (ඔවුන් බත්වන්
60 නෙමු” යයි සිතා) රාමරාවණසංග්‍රාමයෙහි තරණය කර
ණලද මුහුදු ඇති වඳුරන් සෙයින් අත්‍යන්තදරුණ මහා
61 යුඩ කොට වහාම සේනාව මස්ලේ ගඞ්ගා කොට මහ බල
ඇත්තෝ දිගැලිකෙත ගනානාපිණිස එයින් නික්මුනාහ.
62 ඒ යෝධයෝ එහි ගොස් කෙසෙල්වනයට ඇතුන් සෙයින්
63 වැද පසම්තුරන් මුළු උනමූලනය කළහ. එහිදී බිඳුනු සතු
රෝද ස්වර්ණමලයනම් තැන්හි රැස්වගෙණ නැවතද යුද
64 පටන්ගත්හ. ඉක්බිති ඒ කඤ්චුකීනායකතෙමේ එහිද බො

65 හෝ භටයන් යැවිය. ඔව්හූද නිරන්තරයෙන් ශරවර්ෂා වස්
වන්නෝ චරයන් අතින් වනගාම් මං විචාරා ඔවුන්විසින්
66 දක්වනලද මඟින් එහි වැද ඒ ඒ බලකොටු ඇසුරුකළාවූ
බොහෝවූ ඒ යෝධයන් මරා සවර්ණමලයනම් තැනද
නිෂ්කණ්ටක කළහ.

67 ඉක්බිති ඒ කඤ්චුකීනායකතෙමේ මාලාවරත්ථලිනම් තැනට
68 යෙමින් සවර්ණමලයට ගිය යොධයන්වෙත “ මම මේ මඟින්
ම මාලාවරත්ථලිනම් ගමට යෙමි. තෙපිදු ඒ යන මඟට පිළි
69 පදිව්ය ” යි අසුන් යැවිය, ඔව්හූදු ඒ අසා එසේ කළහ. ඒ
තෙමේද ඒ සියලු (යොධයන්) ගෙණ මාලාවරත්ථලියට
ගියේය.

70 යුද්ධක්ෂමවූ රක්ඛනම් දම්ළාධිකාරීතෙමේද මහබල සෙන්
විසින් පෙරටුකරණලද්දේ දෙණවකට එළඹියේය.——
71 එකල්හි බොහෝ දමිළයෝ එපවත් අසා මානාකුල නුවර
72 වසන රක්ඛලඞ්කාපුරනම් ඇමතියාහටද තත්වූපරිද්දෙන්
ඒ පවත් ප්‍රකාශ කොට වහා එනුපිණිස උහුටද හසුන් සනි
73 කේ යවා “ දෙණවක පටන් නවයොදුන් රටට යායුතු මඟ
ඉතා දුර්ගමය එහෙයින් ඒ මඟින් රටට වැදීම (වලක්වා)
74 ඒ බලකොටුවලම නවත්වන්නෙමුය ” යි සිතා මහත් සාහ
75 සිකවූ ඒ සියල්ලෝ යුද්ධාරම්භ කළහ.——විධානයෙහි පණ්ඩි
තවූ රක්ඛනම්දම්ළාධිකාරීතෙමේද විධානයට ද්‍රළුමයෙන්
76 ම සතුරන්හා යුද්ධයාගේ මුඛ භඟය කරන්ට කැමැතොත්
බොහෝ භටයන්ද ලොකනම් කෙස්ඳනාය නාථනම් සඞ්
77 ඛනායකය යනමේ ආදී සාමන්තයන්ද යුද කැමැතොත්
යැව්. ඔව්හුදු මහයුද කොට මහජයට පැමිනියහ.——එ
78 කල්හි බිඳුනාවූ ඒ සතුරෝ මහබියෙන් වියවුල්වූවාහූ ගරු
79 ළස්කලඤ්ජනම් තැන රැස්වූහ. එකල්හිද රක්ඛකනම් ඒ
දම්ළාධිකාරීතෙමේ එතැනත් ගනහාපිණිස එම මහසෙන්
80 යැවීය. ඒ මහා යොධයෝ ගොස් බොහෝ අවුරුණු සිඳින්
නෝ නොයෙක් දෙරටුයෙදු මහාබල කොටු බිඳිමින් සතු
81 රන්විසින් වසනලද තැනට සම්ප්‍රාප්තව ජීවග්‍රාහයෙන් ගත
82 යුතුවූවන් ගෙණ බොහෝවූ අන්‍යවෛරීන් වහාම මරුමු
වට පමුනුවා ඉතිරියන් පිහිට නැතිව පලවා එතැනද නි
83 ෂ්කණ්ටක කොට ගියාවූ ඒ යොධයෝ උහුවෙතටම පෙරලා
ආහ, එකල්හි ඒ තෙමේ සුදුසු පරිද්දෙන් උන්ට ප්‍රසාද
දෙවීය:

84 එකල්හි දෙමළඅධිකාරීතෙමේද ගිම් හිරුතෙදින් දනු ල
බන්නාවූ වලක් මෙඝය සෙහින් ඒ රජහුගේ තෙදින් අළු

85 ශෙෂ බවට යන වෛරීන් ශාමද්‍රයොගයෙන් රක්නට නුව
නැත්තෝ දෙණුවකටම පෙරලා අවුත් සිද්ධකළ සිද්ධකළ ර
86 ටෙහි නැබ්බයුත්තන් තබ්බවා වසගවනානන් වසඟකොට
87 ඒ රටත් ශුද්ධ කෙළේය—පුවක්දණ්ඩාවෙහි බලකොටුවක්
කොටගෙණ හුන්නාවූ මහත් බලඇති පසමිතුරෝ නැවත
88 යුද පටන්ගත්හ—ඉක්බිති දෙමළ අධිකාරීතෙමේද එහි
දු යුද්ධක්‍රීඩායෙහි නුවනැත්තාවූ සාමන්තයන්හා බොහෝ
89 භටයන් යැවීය. ඒ මහා යොධයෝද ගොස් ශරවර්ෂා වස්
වන්නෝ භෙරීන්ගේ නාදයෙන්ද ඛඩ්ගයන්ගේ විවතීනතා
90 යෙන්ද විදුලිසහිත අකාලමෙඝ විභ්‍රමසෙයින් දක්වන්නෝ
ස්වකීය වීරරසාස්වාදයෙන් යුද්ධශ්‍රම දුරුකෙරෙමින් තමන්ගේ
91 ජයභෙරියෙන් වීරශ්‍රීයද පිදූහ—පසුව බොහෝ ඒ පසමිතු
92 රෝ නඹගමුනම්තැන බලකොටුවක් කොටගෙණ ඉනපා
හයි අසා වීරසම්මතවූවෝ ස්වකීය වික්‍රමෛකරසබව දක්
93 වනු කැමැත්තාවුන් සෙයින් රාත්‍රියෙහි එහි ගොස් රණභෙ
රි ධ්වනියෙන් යුදපිණිස පසමිතුරන් කැඳවන්නාවුන් සෙ
94 යින් වන්හ. එකල්හි සියලු දමිරිකයෝ බෙරහඬ අසා ඉස
හෙන හෙනහාසේ සිතමින් කිසිවෙක් මූර්ජිතවූහ කිසිවෙක්
95 පලාගියහ කිසිවෙක් ආයුඃක්ෂයට පැමිනියහ; ඒ බලකොටුව
භස්මාවශෙෂ කොට දවා එකල්හි මහබලඇති ඔව්හු පුවක්
දණ්ඩාවටම පෙරලා ආහ.

96 රක්ඛනම් දමිළාධිකාරීතෙමේ නැවත සිය සෙන් කැඳවා
97 සියරට ඒ ඒ තැන සැඟවී උන් පසමිතුරන් සාදනුපිණිස
සාමන්තයෙකුහා චතුරඞ්ගිනිසෙන් යැවීය, ඒ සේනාතො
98 මෝ බෝවල කිතුල්වල අතරනදුම්බොකද (යනගම්වල)
බොහෝ සතුරන් මරා රාත්‍රියුද්ධද කොට පෙරලා ආවා.
99 එකල්හි දෙමළඅධිකාරීතෙමේද මහබලසේනාවිසින් පෙරටු
කරණලද්දේ ඌරල බෙරණ පණුතොටනම් තැනට ගොස්
100 සර්වප්‍රකාරයෙන් නරේන්ද්‍රයාගේ උපදෙශය විරුද්ධ නො
101 කොට වෛරී නොව ඒ ඒ තැන සැඟවී උන් බොහෝ
දෙනා සියරට පෙරසෙයින් පිහිටුවා දීනූ රටත් තැබ්බ
102 යුත්තන් තබ්බවා බිහිසුනු මහසේනායෙන් පෙරටුකරණ
103 ලදදේ එසින් නික්ම හිම්තල්ගොඩනම් ගමට එළඹියේය.
එකල්හි ඒ ඒ තැන සැඟවී උන් බොහෝ දමරිකයෝ රට
104 වැසි සේනා ගෙන්වා මහබලඇත්තෝ තමන්විසින්ම
සෙනෙවිරත්බැව්හි තබනලද නොයෙක් සියගණන් යොධ
105 යන්විසින් පෙරටුකළ රක්ඛලඩිකාපුරනම් තැනැත්තාහුද
බෙරහා කාලම් හඬින් නානාදිගුන් පූරවනනා කැඳවා නදී

106 හඩනම්මූ ගමට එලඹුනහ——නැණැති දෙමළ අධිකාරි තෙමේ ඒ විධාන අසා සිය භටයන් කැඳවා මේ
107 බස් ඔවුන්ට (කියන්නේ) "තොපගේ ස්වාමියාහට පක්ෂ
108 පාතබැව් මෙහිදී දක්වව් තොපගේ වීරබැව් මමද මෙ හිදී දකිමි මේතෙමේ තොරටය මේ සතුරෝද මහාසාහ
109 සිකයෝය මෙසේ කල්පනා නොකොට අපගේ ස්වාමීහුගේ තේජසින් යුධභූමියෙහි නිසැකයෙන් ජයලාභය මෙනෙහි
110 කෙරෙමින් යුදකරණට පෙදෙසක් පළමුකොට ගන්නාපි ණිස යව්ය" සි කීය——ඉක්බිති මහාඋත්සාහ ඇති ඉතා සා
111 හසිකවූ ඔව්හුදු නික්මගෙණ මහාසේනානම් ගම්හි යුද පිණිස තැනක් ගත්තාහ. එකල දෙපක්ෂයෙහිම යොධයෝ
112 පැන යුධභූමියෙහි ආයුධ අන්‍යොන්‍යඝට්ටනයෙන් හටගත් ගිනිපුපුරුයෙන් සියලු අහස දවල් තරුනැංගා සේ කෙරෙ
113 මින් ශරවර්ෂානිපාතයෙන් සියලු දිගුත් පූරවන්නෝ වීරගර්ජනාවෙන් ගර්ජනා කෙරෙමින් මහායුධ පටන්ගත්හ——
114 එකල්හි මහබලඇති දෙමළඅධිකාරීතෙමේ රක්ඛලඞ්කාපුර නම් සේනාපතියාගේ වීරභාවයත් සමගම හිස ගත්තේය. එ
115 කල්හි සියලු දැමරිකයෝ පිටිවහල් නැතිව වෙරළනැගී සාගරජලොඝයන් සෙයින් බිඳුනාහ. එකල යුධභූමියද කා
116 ගිජුලිහිණි ආදීන්විසින් ගැවසීගත්තේ වි——එකල්හි දෙමළ අධිකාරිතෙමේද යුධයෙහි ලත්ජයඇත්තේ මහසැණ
117 කෙළි කෙළිමින් සෙනගවිසින් පිරිවරණ ලද්දේ මහත් යසස් ඇතිව මානාකුල නුවර ගත්තේසි.

118 එකල්හි රක්ෂකචූඩිනායකතෙමේද මාලාවරත්ථල* යෙන් පිටත්ව මානාකුල නුවරට වහාම ගියේ දමිළාධිකාරීහු දිට.
119 එකල්හි කල්නොකල් දන්නා ප්‍රාඥවූ ඒ තෙමේද උහුසමග
120 මෙසේ මන්ත්‍රණය කෙළේය. "ස්වාමීහුගේ උපදෙස් පරිද් දෙන් මානාකුල පූරය අපවිසින් ගන්නාලද්දේය එහෙත් නොනටුවාවූ බොහෝ වෛරීහුද වෙති. ඔව්හු පිටිවහල්
121 නැතිව ගොස් කඩවකට† වන්හ ජය ලැබ සිටියාවූ යොධ යන්ගේ වහාම එහි යාම මට නුරුස්නේය. ස්වාමීන්ගේ පද
122 දෙශයම අපට සරණමැ" යි එහෙයින් එහි ඉඳගෙණ පස
123 මිතුරන් නොව් ඒ ඒ තැන සැඟවී උන් (එහි වැස්සන්) ගෙන්වා ස්වකීය ස්වකීය රටෙහි පිහිටුවා ඒ මානාකුල නුව
124 රම කල්ගෙවූහ——එකල්හි කඩවකට වන් බොහෝවූ ඒ
125 සියලු පසමිතුරෝ වගීහිකායන් පෙරලා නැවතත් යුදකරණු

---

* (මාරකඩ ?) † (කඩවතුකෝරළය ?)

කැමතිව කඩවත්නම් තැන්හි රැස් වූහ. එකල්හි දෙමළ
126 අධිකාරීතෙමේද "යුධයපිණිස මේ කාලය" යි මෙසේ
සිතා මානාකුල නුවරින් පිටත්ව (අවුත්) කොගගල උඩ
127 වැව්හි බිහිසුනු යුධාරම්භ කෙළේය. මහා ප්‍රාඥ හේතෙ
මේ ඒ සියල්ලන් පලවා පෙරලා ගියේය—එකල්හි නිසි
128 සතුරු කෙනෙක් සඟබේනම් ගම්හි පැමිනියහ. සූකර
129 භාතුදේවනම් සේනාපතිතෙමේ ස්වකීය භටයන් හැර
ගෙණ ශූදකටටිව මාගමට ආය. එකල්හි හේ දෙමළ
130 අධිකාරීතෙමේද ස්වකීය භටයන් සඟබෙයනම් ගමට ප්‍රථම
කොට යැවීය. එකල්හි ඒ මහාවීරයෝ යුධභූමියට ගොස්
131 ශ්‍රීමත්වූ පරාක්‍රම නරේන්ද්‍රයාගේ තේජස්ගින්නෙහි බො
හෝ වෛරීන් දවා එහි මනාකොට මහා සැණකෙළිද පවත්
132 වමින් මානාකුල නුවරටම පෙරලා අවුය—එකල්හි දෙ
මළඅධිකාරීතෙමේද ඒ සෙනෙවියා ගන්ට දෙවලඞ්කාපුර
133 නම් සෙනෙවියාද අන්‍යවූ බොහෝ භටයන්ද යුදපිණිස
යැවීය. ඔව්හුදු යුධභූමියට ගොස් අනවරතයෙන් යවන
134 ලද ශරයෙන් සියලු අහස වසමින් ගර්ජනාත් කෙරෙමින් යුධ
135 භූමියට වන්නාහු සෙනෙවියා මරා සතුරන් බින්දූහ. එ
කල්හිද ඒ මහායොධයෝ ජයභෙරි ධ්වනියෙන් දෙමළඅධි
කාරීහු සතුටුකරනෙනා් මාගමට එළඹියහ.

136 එකල්හි රක්ඛලඞ්කාපුරනම් සෙනෙවියාගේ වැඩිමහල්
137 සහෝදරයෙක් එහි තමන්ගේ ප්‍රධානත්වය තෙමේම කොට
ගෙණ මරණලදීන් ඉතිරි බොහෝ සතුරන් ගෙණ චොර
138 යුධපිණිස මානාකුල නුවරට එළඹියේය—එකල්හි දෙ
මළඅධිකාරීතෙමේ වනාහි එහිත් භටයන් යැවීය. ඒ යො
139 ධයෝ එහිදී උහු මරා බොහෝ සතුරන් බින්දූහ. බිඳිනා
ලද ඒ යොධයෝ කුරවකගලල* නම් තැනට පැමිනියහ.
140 රක්ඛනම් දෙමළඅධිකාරීතෙමේ මානාකුල නුවරින් නික්ම
ඒ සියල්ලන් බිඳ පෙරලා එහි නොආය.

141 එකල්හි වික්‍රමනම් ලොකගලලතෙමේද එසේම අන්‍යවූ
බොහෝ සතුරෝද මානමූල පූස්තකීහු සමග මාගම්හි යුද
142 පිණිස හැමඅතින් එළඹියහ. මානමූලපූස්තකීනම් ඒ තෙ
මේද ඒ යුදයෙහිදී ස්වකීය පක්ෂපාතයනුත් එක්ව යුදකොට
143 ලාහෙලා ජයගත්තේය—එකල්හි දෙමළ අධිකාරීතෙමේ
144 ඇමතියන් සහ මන්ත්‍රණය කෙරෙමින් "එකි එකී මහයුධයෙ
ක්හි වෛරීන්ගේ විනාසයද හයින් ඒ ඒ තැන පලායාමද

---

* (කොරවක්ගල ?)

145 දකිමින් වෛරීහු පෙරලා යුඞයෙහි නිරුත්සාහවූහයි සිතමින
එසේද උවත් උන්ගේ මුල්නැතිබව නොපෙණේමැයි. රට
146 මැද හැර ඒ ඒ තැන සැඟවී උන්නන් රටමැදට පැමිනිකල
147 නසන්නෙමුය"යි කියා පණ්ඩිතවූ මහායසස් ඇති හේතෙමේ
පුවඞ්ඬාවටම පෙරලා ආයේය. ඒ දමරිකයෝ වනාහි උන්හු
148 ගේ මන්ත්‍රණය නොදැන ඒ ඒ දුර්ගමස්ථානයෙන් රටමැදට
බැස්සාහ, දෙමළ අධිකාරීතෙමේ වූපරිද්දෙන් එපවත් අසා
149 එතැනින්ම පිටත්ව වීරයන් විසින් පෙරටුකරණ ලද්දේම
බෝවලනම් ගම හුන් බොහෝ වෛරීන්ද පසුව ඌරල
150 බෙරගලනම් තැනද මීගොඩනම් දුර්ගයෙහිදැයි යන හැම
151 තැන්හි මහයුද පවත්වා සතුරන් ජීවිතක්ෂයට පමුනුවා රට
152 මැදට එලඹ එහිද තන්හි තන්හි සියසෙන් යවා ඒ සියල්
153 ලන් මුල් උපුරවා පසුව හුයලනම් ගම සිටි ප්‍රධානයන් වෙ
තින් ආවාවූ හසුන් අසා කුඹුගමට එලඹියේය.

ඉක්බිති හුයල බලකොටුවෙහි උන් මඤ්ජුනම් අධිකාරීතෙ
154 මේද කිත්තිනම් භූතනම් ඒ අධිකාරීන් දෙදෙනාද අනල්ප
155 වීරසාමන්තයන්හා භටයන්විසින් පිරිවරණලද්දෝ මහසැ
ණ පවත්වමින් එතනටම එලඹියහ. එයින් මඤ්ජුනම් අධි
156 කාරීතෙම රක්ඛනම්වූ දෙමළඅධිකාරීහු කැඳවා මේ වදන්
කීය. "තොපගේ රටින් බිඳී අවුත් නොයෙක් දුර්ගමස්ථාන
157 යන්හි සැඟවී හුන් බොහෝ පසමිතුරෝ යම්තාක් එහි ප්‍ර
තිෂ්ඨා නොලබද්ද ඒතාක් ඒ සියල්ලන් මරවා අපි අටදහස්
158 රට* දුර්ගමස්ථානයෙහි සිටි සතුරන්ද සුගලානම් රාජිනි
යද ගණුම්හ. වැලි දුර්ගමස්ථානාශ්‍රිත බොහෝ වෛ
159 රීහු ඉදින් තොපවිසින් දුස්සාධ්‍යයෝනම් භටයන් එවන්
නෙමුය" යි (කීය)——දෙමළ අධිකාරීතෙමේ ඒ වදන්
160 යහපත්කොට පිළිගෙණ එයින් (පිටත්ව) සේනාව කැටිව
161 වහා වනයෝ ආදියට වැදී බලමින් ගිරිදුර්ගාදියට නැගෙ
162 න්ට සතිකෝ මාලාවරත්ථලියට ගියාවූ සතුරන් වෙතට වහා
පැමිනියේය. ඔව්හුදු ඒ අධිකාරීහු නික්මුනු බැව් අසා භ
163 යින් මිරිකුනෝ මහපව් ඇසුරුකළාවූ මහවනයට වන්හ.
දෙමළඅධිකාරීතෙමේද වනපව් වටලා උන්හා මහයුදකොට
164 සර්වප්‍රකාරයෙන් උන් වනසමින් සතුරු කටු නැතිකොට ඒ
දෙළොස්දහස් රට ගෙණ ජීවග්‍රාහයෙන් ගත් වෛරීන්ගේ
165 කටයුතු විචාරා ගම්හිද නියම්ගම්හිද නොයෙක් සියගණ
න් වෛරීන් උල හිඳුවා පසුව මානාකුළ ගම භාත්පසද

---

* (අටකලංකෝරලේ ?)

166 බොහෝ වෛරීන් උලහිඳුවා මහබලඇත්තේ කිසිවෙක්
තුලාරූඪකොට අවශේෂකොට දවා මානාකුලනම් ගම්හිම
167 හිඳගෙණ ශ්‍රීමත්වූ නරේන්ද්‍රයාගේ ආඥාභෙරිය පසස්නා
නකතාකින් ගම්හිද නියම්ගම්හිද හැසිරවී. නරේන්ද්‍රයා
168 වෙත එපවත් කියා යවා මහරජහු වෙතිනුත් ප්‍රසාද ලැබ
169 ගෙණ මහපැණඇති ඒතෙමේ ඒ දෙළොස්දහස්රටම කට
යුතු විචාරමින් මහත් යසස් ඇතිව විසීය.

කුඹුගම හුන් සියලු ප්‍රධාන අමාත්‍යයෝද "යුදපිණිස
170 රුහුණු රට බලා අප නික්මුනු කල්පටන් ඒ ඒ තැන මහා
යුද්ධයෙහි අපවිසින් යවනලද මහායොධයෝ වෛරීන්ගේ
171 ඇටයෙන් පොළෝතෙල වැසුම් කළහ. තවද මේ හටයන්
172 වලකන්ට දඹදිව්වැසි සියලු මහායොධයෝ උවත් කිසිකා
ලෙකත් හැකි නොවෙති එහෙසින් හසින් ඒ ඒ තන්හි සැ
173 ගවී උන් කිසි සතුරෙකුහා යුද්ධකරන්ට මින්මත්තේ කුමට
සිතමුද ? උන්ගේ දමරිකබවට මුල්වූ සුගලා රාජිනිතො
174 මෝම ඒ ඒ දුර්ගයෙහි වනයෙහි උන් ප්‍රවේශකරන්නීය. එ
හෙසින් ඒ රාජිනිතොමෝම ජීවග්‍රාහයෙන් ඇල්විය යුතානි
175 ය" යි මෙසේ නිශ්චය කොටගෙණ කුඹුගමින් පිටත්ව මහ
පැණැත්තෝ අරළුවාවට ගොස් එහි නොයෙක් නුවර යහ
176 පත්වූ අතිවිරයයි සම්මතවූ තැබිය යුත්තන් තබා එතැනින්
කළුවලට ගොස් බහා පලඳනාලද කවදත් අවිඇත්තෝ වල්
177 ගම්නම් තන්හි රාජිනිය සහිත සතුරු සෙන් දැක එහි ඉතා
178 බිහිසුණු මහ යුද කොට ජයභෙරිධ්වනියෙන් පොළෝතෙල
බිඳින්නාවුන් සෙයින් රාජිනිය අල්වාගෙණ බොහෝවූ වස්තු
179 ජාතයද ගෙණ වස්තුරක්ෂාපිණිස තැබියයුතු කඩුකින් තබා
පටන්ගත් යුද්ධක්‍රීඩාව එකල් එහිදී සමාප්තකෙරෙමින් වෛ
180 රීන්ගේ අතින් පයින් හිසින් පොළෝ වසමින් ජීවග්‍රාහ
181 යෙන් ඇල්විය යුත්තන් අල්වාගෙණ සර්වප්‍රකාරයෙන් රු
හුණුරට සතුරු කටු රහිත කළහ.

182 එකල්හි කිසිම අවසරයක් හේතුකොටගෙණ සතුරන්
183 අතින් මිදී හසින් පෙළී පලායන කිසිහටකෙනෙකුදු ගෙණ
ආයුඃක්ෂයට පැමිනි වාලකාළනම් තුන්දෙනාද තඩ්ගාමනම්
184 තැනැත්තේද පර්වතනම් දෙදෙනාද ලඞ්කාපුරනම් තැනැ
ත්තේද එසේම කඩක්කුඩයයි ප්‍රසිද්ධ දඩනාථ සහෝදර දෙ
දෙනාද අන්‍යවූ ලඞ්කාපුරනම් (සෙනෙවියෙක්ද) හටයන්
185 සහිත බොහෝ සාමන්තයෝද උද්ධනවාරනම් ගම්හි හමුව
මහයුද්දෙහිදී බිඳී නිග්‍රොධමාරගල්ලනම් තැනට එලඹිය
186 හ——එකල්හි ඒ මහඇමතියෝත් සාමන්තයන් කැටිව

187 සතුරන් පස්සෙහි ලුහුබඳනෝ ඵාලකාළයාගේ ඉස ප්‍රධාන
ඇමතියන් වෙත යවා ලඞ්කාපුරය පර්වතස යනානම් ඇත්
තන් ජීවග්‍රාහයෙන් අල්වාගෙණ සර්වප්‍රකාරයෙන් සියලු සතු
රන් කථාශෙෂ කළහ.

188 එකල්හි මඤ්ජු නම් අධිකාරීතෙමේ මන්ත්‍රණය කරන්නේ
189 "මේ රුහුණ දිනන්ට ආරබ්ධකාලය පටන් අපගේ ස්වාමි
හුගේ තෙජසින් සඞ්ග්‍රාමයෙහිදිම සතුරන්ට කළාවූ විනාස
190 හැර රාජපරාධයතෙමේ මෙසේ ආදිනව සහිතයයි අත්‍යන්ත
191 භයදූයකවූ මහජනයාකෙරෙහි දන්වනුපිණිස පිළිමඑන්ට
192 කළ නිග්‍රහයක් නැත්තේය. එහෙයින් නිග්‍රහකටයුත්තන්
සර්වප්‍රකාරයෙන් නිග්‍රහ කරවා හැමතන්හි ප්‍රග්‍රහ කටයුත්
තන් ප්‍රග්‍රහ කරවා ස්වාමිහු ආඥවූ පරිද්දෙන් සංග්‍රහ නිග්‍රහ
කරන්නමෝ" යි (කීය). සියල්ලෝම ආදර සහිතවූවෝ උහු
ගේ ඒ මන්ත්‍රණය සතුටින් පිළිගත්හු.

193 ඉක්බිති නිග්‍රහයොග්‍ය බොහෝ පසමිතුරන් ගෙන්වා
ගම්හිද නියම්ගම්හිද බොහෝ උල් හිඳුවා නොයෙක්
194 සියගණන් වෛරීන් එහි නංවා, බොහෝවූ සතුරන් තිසි
වෙක් තුලාරූඪකොට භස්ම කරවා, පරාක්‍රම නරේන්ද්‍රයා
195 ගේ ඉවසිය නොහෙනනාවූ අවිලඞ්ඝනීයවූ විශමය එලව
නානාවූ ප්‍රතාපගුණය සර්වප්‍රකාරයෙන් ප්‍රකාශ කළහ,

196 පසුව අනුග්‍රහ කරන්ට සුදුසුවූ අනුග්‍රහ යොග්‍යයන් ලැව්
ගින්නෙන් දැවෙනුලබනනාවූ වනලැහැබක් ප්‍රාවෘට්කාලික
197 මේඝයන් සෙයින් (නිවා) විධිවූ පරිද්දෙන් ඒරට අල්වා ගත්
තෝ සංසුන්බවට පැමිනවූහ—එපවත් අසා පරාක්‍රමබාහු
198 මහරජතෙමේ මහත් ප්‍රසාද සහිතවූ හසුන් යවන්නේ "ජීව
ග්‍රාහයෙන් ගත් සියලු ඇමතියන්ද සුගලානම් රාජිනියද
199 පළමුකොට මෙහි එවා එරට සියලු භාරය භෘත්‍යාධිකාරීන්
200 කෙරෙහි සමර්පණය කොට එරට වැසි අනල්පවූ භික්ෂුසඞ්ඝයා
පෙරටුකොටගෙණ මෙසින් මෙහෙයන ලද්දාවූ සිවුරඟ
201 සෙනග ගෙණ ඒ ඒ ජනපදයෙහි තැබිය යුත්තන් තබ්බවා
202 වහා අවුත් මනායයි සම්මත නකත් මොහොතෙක සියලු
ඇමතියන් විසින්ම මම දක්නායුතෙනම් වීම්" මෙසේ හසුන්
203 යැවීය—ඉක්බිති ඒ සියලු ඇමතියෝද ඒ මහසෙන්විසින්
පෙරටු කරණ ලද්දෝ ඒ මහරජානන් ආඥ වූපරිද්දෙන්
204 සර්වප්‍රකාරයෙන්ම විරුඬ නොකෙරෙමින් රුහුණු ජනපද
යෙන් නික්ම පොළොන්නරු අවුත් බොහෝ සෙසින් වාද
205 නය කරනනාවූ ඔල්වරසන් අත්පොළසන් දෙනනාවූ සර්වප්‍ර

කාරයෙන් දහස්ගණන් පිළී ගිස සිසාරනනාවූ ජයශබ්ද
කරනනාවූ පොළොන්නරු වැසසන්විසින් අනුගත වනලද්
206 දුනු ප්‍රවරවූ රාජමන්දිරයට උපසඞ්ක්‍රාන්තව මහත්වූ දිපත්
යෙන් හුනනාවූ ශ්‍රීමත් ඒ රාජාධිරාජයාගේ පාදපද්මරේණු
207 යෙන් ස්වකීය උත්තමාංගයන් පවිත්‍ර කළහ.

208 මෙසේ ලැබ්ගිනනක්සෙයින් උග්‍රතරවූ ඉතා තිගිසුනු
තෙදඇති නයවිනයක්‍රමය අනුව යනනාවූ ව්‍යක්ත බුද්ධිඇති
නරශ්‍රෙෂ්ඨතෙමේ සඟගනවිරයන් ඇත්තේ රුහුණුරට පහ
කළ සතුරු කටු වූවාක් කරවී.

මෙතෙකින් සුජනයාප්‍රසාදසංවෙගපිණිස කළ මහවංශ
රෝහණහජන නම්වූ පන්සැත්තෑවන අදියර නිමි.

# 76 වෙනි පරිච්ඡෙදය.

1 ඉක්බිති ඒ මිහිපල්හු දිවා රෑ දෙක්හි නොමැලිව ප්‍රඥ
වෙන් යුක්තව ලෙව්සසුන් වැඩුම් කරණ කල්හි ශ්‍රීමත් ඒ
2 නරෙන්ද්‍රයාගේ ඔටුනු පැලඳි අටවැනි හවුරුදුයෙහි රුහුණු
රට අධිවාසී සියල්ලෝ එක්වගෙණ ඉතාදරුණුවූ තිසිම
3 පව්කමකින් මෙහෙයනලද්දෙ නැවතත් දුමරිකවූවෝ ති
4 සුණු විපතට භාගී වූහ—ඒ පරාක්‍රමබාහු රජතෙමේ එප
වත් අසා නැවතද ඇමතියන් සහිත මහසෙන් එහි යවා
5 යටකී සියලු ගම්හිද නියම්ගම්හිද පෙරසෙයින් නිතිපටන්
6 ගත් බොහෝ යුදකෙරෙමින් සතුරු සේනාව සියතෙද
ගිනනට දර කොට මුළු රුහුණුරට වහාම කටුරහිත කෙ
7 ළේය—පසුව ඒ රාජාධිරාජයාගේ ඔටුනු පලන් සොළොස්
වෙනිවස මාවටුපටුනහා ඒකාබද්ධරට සර්වප්‍රකාරයෙන් පැ
8 මිනි ආයුඃක්ෂයඇති ඒ රට වැසි තිසි ජනකෙනෙක් පෙරලී
උතුමැයි සම්මතවූ යුද පැවැත්වූහ—ප්‍රඥසම්පන්න මහා
9 රාජතෙමේ එහිදු සිවුරඟසෙන් යවා පොළෝ ධූලිවනතෙක්
සතුරන් නැස්වී.

10 සම්‍යක්දෘෂ්ටි සමනි මිනිසුන්ගේ නිවාස බැවින් ලඞ්කා
රාමඤ්ඤදෙශයන්ගේ හෙදයෙක් හැමකල්හිම නොවිය.
11 ලක්දිව් අධිපතිවූ රජදරුවෝද රාමඤ්ඤදෙශ ඊශ්වරයෝද

යනාමේ දෙපක්‍ෂයෙහි ඇත්තෝ සාදෘශ්‍යයෙන් හැමකල්හිම
12 පරම සෞගතයෝය. එහෙයින් දෙශදෙක්හිම පූර්වක සියලු
රජදරුවෝ දෘඪයේ හටගත් විස්වාස ඇත්තෝ සිතින් ශුභ
13 වම හිතයෝය. මාහැනි නොයෙක් පඬුරු උපුන්වෙන
පමුනුවමින් බොහෝ කලක් නොකඩව සමඟිබැව පැවැ
ත්වූහ.

14 පරාක්‍රමබාහු මහරජානන් සමගත් රාමඤ්ඤරජතෙමේ පෙ
ර රජුන්සෙයින් චිරානුගතසමගිය පරිපාලනය කරන්නේ
15 නැවත එක් කලෙක නැණහීන ඒ රජතෙමේ මේ ලක්දි
වින් ගිය කණෙකිකොඳුරනනාවූ නිසි දූතකෙනෙකුන්ගේ
16 බස් අසමින් තමන් වෙත ගිය ලඞ්කාශ්වරයාගේ දූතයන්ට
17 පුරාණ සිරිත්වූ දෙනුලබනනාවූ වැටුප් පිරිහෙලී——බැ
හැර නොයෙක් තැන නොයෙක් දෙනාවිසින් විකුණනු
ලබන්නාවූ "ඇතනු නොවිකිණිය යුත්තාහුමය" යි සම්ම
18 තයකුදු කරවී. යම් ඇත්කෙනෙක් වනාහි රිදීනිකල් සියයට
හෝ වැලි දහසට හෝ පූර්වයෙහි එහි විකුණනුලබනෝ
19 "සහස්‍රවවයට හෝ සහද්‍රනුයට හෝ විකුණා යුත්තාහ" යි මෙ
සේ දුෂ්ටඅදහස්ඇති හේතෙමේ ගණන් සීමා තැබ්බවී,

20 (මෙයින්) ගෙණයන පඬුරුපිණිස නැවක් පාසා එකෙක්
එකෙක් බැගින් දෙනුලබනනාවූ පූරාණ ඇත්පඬුර මුලි
21 නිදිරී——තමන් උදෙසා එලවනලද රන්මුවා ලියුම් දක්
22 නේත් "දූනවූ මේ මිනිස්සු කම්බෝජරට සඳහාය" යි මෙ
සේ යම්නිසි (මුඛාවෙශවූවක්) නියා සියලු වස්තු උදුරාගෙණ
23 ලඞ්කාශ්වරයාගේ දූතයන් කඳුරට බලකොටුවෙක ලැවී
ය——ඝාටිකියවූ තපස්වි නම් දූතයාහට ලඞ්කාශ්වරයාවි
24 සින් කරණලද සඟ්‍රහසියල්ල සියලු ආකාරයෙන් අසමින්ම
ලඞ්කාශ්වරයාගේ දූතයන් සතු වස්තුද ඇතාගුද එසේම
නැව්ද යන ඒ සියල්ල උදුරාගෙණ නිතිකුම නොදනනා
25 ඒතෙමේ ඔවුන්ගේ පාදයන්හි බොහෝසේ මුසලපීඩනය
කරවා දියඇදිම්පිණිසද සිරගෙවලද යෙදූයේයි——එක්
26 කලෙක කසුබ්නම්වූ දඹදිව්ප්‍රධානයෙකුවිසින් රන්ලියුම්
27 සහිත කොට එවනලද්දාවූ සරුවූ පඬුරු නවතා ඒ මිනිසුන්
ගේ ගොඩබැස්ම වලකා පසුව ඒ ලියුම් සහිත (පඬුරු)
අවමන් සහිතකොට සියපුරයට ගෙන්විය.

28 ඉක්බිති හේතෙමේ එක්කලෙක සිංහල දූතයන් කැඳවා
(කියනුයේ) "මෙතැන්පටන් අපගේ රටට සිංහල දෙශයෙ
29 න් නැව් නොඑවිය යුත්තාහ. ඉදින් ඔව්හු එවත්නම් ඉන්
ඉක්බිති මෙහි පැමිනි දූතයන් සර්වප්‍රකාරයෙන් නාසනනා

30 වූද තොපගේ වරදෙක් නැතැයි මෙසේ පතක් දැන් අපට
දෙව ඉදින් නොදෙව්නම් තෙපි සියගෙට (රටට) යන්ට
31 නොලබන්නාහුය" යි කීය. මෙසේ ඔවුන් ආක්‍රමණය කොට
පසුව සියරට එනුපිණිස ලියවා උන්අතින් පතක් ගත්තේ
32 ය—වාගීශ්වරනම් ආචාරීන්ද ධර්ම්මකීර්ත්තිනම් පණ්ඩිත
33 යාද සිදුරු සහිත නැවෙකින් මුහුද හැරියේයි—නැවත
එක් කලෙක ඇතුන් විකිණගන්නාපිණිස ලඞ්කෙශ්වරයා
34 විසින් මෙහෙයනලද පඬුරුහා බඩුත් දූතයන් අතින් හැ
රගෙණ "ඇතුන් තුදුසක් තොපට දෙමු, රිදීමිළ හෝ දෙ
මුය" යි මෙසේ කියා උන්ට කිසිවක් නොදෙන්නේ හුදක්
35 බොරුම කීය—ඉක්බිති ලඞ්කාධිපතිහුවිසින් කාම්බොජ
රට බලා යවනලද රජකුමරියක්ද බලාත්කාරයෙන් උදු
රා ගත.

36 පරාක්‍රමබාහුමහරජතෙමේ ඒ රජහුවිසින් අනෙකප්‍රකා
රයෙන් කරවනලද විප්‍රකාර අසා අත්‍යර්ථයෙන් කිපිසිත්
37 ඇත්තේ "මුළු දඹදිව්හි කවරනම් රජෙක්තෙමේ මාඅයත්
දූතයන්ට මෙබඳු ක්‍රියාවක් කරණුපිණිස සමර්ත්ථවූයේ විද්‍ය
38 මානද" මෙසේ කියා ඇමතියන් රැස්කොට "අරිමර්ද්දන
රජහු අල්වාගැන්ම හෝ මැරීම හෝ වහා කටයුතුය" යි ඒ
39 තෙමේ කීයේයි—එකල්හි ආදිත්‍ය ද්‍රවිඩාධිකාරීනම් ඇ
ති එහි එක් ගණක මහඇමතියෙක් බඳනාලද ඇදිලි ඇ
ත්තේ තෙමේම එහි යනුකැමැත්තේ රජහට මෙබස් කීය.

40 "මේ ක්‍රියායෙහි ප්‍රධානවූ මහඇමතියන් නොයොදනා සේ
41 ක්වා නුඹවහන්සේලාගේ උපදෙශ මාර්ගයෙන් අපක්‍රම
42 ණය නොකරන්නාවූ ප්‍රතිලබ්ධනියොග ඇති හුදකලාවූ
මට දුරති ක්‍රමණ අනුසාශනා ඇත්තාවූම ස්වාමිහුගේ අනු
ශාසනාව නොසිස් ආකාර කරණුපිණිස කිසිකලෙකත් බ
රෙක් නැතැයි කීය.

43 රජතෙමේ ඒ අසා ප්‍රසන්නවූයේ යැවියයුත්තාවූ සියලු ඒ
භටාධිපතීන් උහු කෙරෙහි සමර්පණය කොට වහා යන්ට
44 අණකෙළේය. පසුව මහායසස් ඇති ඒ රජතෙමේ "නො
යෙක් සියගණනින් නැව්විශෙෂයෝ වහා සම්පාදනය කට
45 යුත්තාහ" යි නියොග කෙළේයි. එකල්හි මොනවට පටන්
ගන්නාලද නැව්කර්ම්මාන්තයෙන් ආකුලවූ (ලක්දිව) හාත්
පස මුහුදුබඩදෙශයෝ එක් කර්ම්මාන්තශාලාවක් බඳුවූහ.
46 පසුව පස්මසෙකින් ඒ සියලු නැව්කම් නිමවා දළුවක්නම්
47 තොට යුහුව රැස් කරවී. ඒ රජතෙමේ හවුරුද්දකට පො
හොනා සහල්ආදි මාර්ගොපකරණද සන්නාහ ආයුධ ආදි

48 නොයෙක් යුද්ධොපකරණද තියුණු අග්ඇති (හී ආදීය) ව
ලක්‍ෂතුප්‍රණිස අයොමය සනාහද නොයෙක් සියගණනින්
49 දහස් ගණනින් ගණනාලද ගෝණසම්න් කළ සනාහද
විෂපෙවූ හීයෙන් හටගත් තියුණු වණයන්ගේ ශාන්තිපි
50 ණිස ගෝහග බහාලනලද බෙහෙත් ජාතීන්ද නොයෙක්
ජලාධාරයන්හි විෂයෙන් මිශ්‍රකරණලද ජලයන්ගේ විෂො
51 පශමනපිණිස එසේම ඖෂධ ජාතීන්ද කර්ණසහිත විෂපෙ
වූ ගැඹුරෙහි වන් උදුරණට දුක්වූ හී දඬු එයින් බැහැර අද
52 නට යහඬුද එසේම තියුණු බුඩිඇති වෙදුන්ද සජ්ජායකර
සත්‍රන්ද මහාරාජර්ධියෙන් යුක්තවූ රජතෙමේ අඩුනොකොට
පිළියෙළ කෙළේය.........නොයෙක් දහස්ගණනින් ගණනා
ලද ප්‍රබල බලසෙන් නැව්හි නංවා සංවිධානයෙහි අසහාය
53 පණ්ඩිතවූ ඒ මහීපාලතෙමේ අනෙකොපකරණයෙන් ආ
54 කීර්ණවූ මහාහටයන්ගෙන් සම්පූර්ණවූ සියලුනැව් එකද
55 වසින්ම පිටත්කෙළේයි.........මුහුදමැද කැටිවූ ඒ නැව්රාශිය
තෙමේ ඉතාවෙගයෙන් යන්නේ ගමන්ගත් ද්වීපසිනක්සේ
56 පෙණින. ඒ නැවින් කිසිවක් විරුඬවූ වායුවෙන් අවුරණ
ලද්දාහු සමුදුරදී නටහ. කිසිවක් නොරට පැමිනියහ.........
57 එක්නැවෙක නැංගාවූ ඉතා සමර්ථ බොහෝ හටයෝ කාකදී
58 වසින ගොඩබැසෑ එහි යුදකොට ඒ ද්වීපසින්වැසි නො
යෙක් ජනයන් ජීවග්‍රාහයෙන් අල්වාගෙණ එයින් ගෙණ
චුත් ලඞ්කාධිරාජයාහට දැක්වූහු.

59 එකල්හි නැව් පසෙක නැංගාවූ මහබලඇති යොධයෝ
60 අරමණදෙශයෙහි කුසුම්තොටට බැසසහ. කීර්ත්තිනගරගිරි
ප්‍රධානකොට ඇත්තාවූ ප්‍රබලවූ ඒ හටයෝ නැවෙන් ගොඩ
61 බට තොට පටන් බහා පලඳනාලද කවදන්හා ආයුධ ඇතිව
අරමණරට වැසි නොයෙක් දහස් ගණන් ඒ බලසෙන් බිහි
62 සුනු යුදෙහිදී මරමින් මතැතුන් සෙයින් හාත්පස නෙරළු
ආදී නොයෙක් වෘක්ෂයන් සිඳිමින් ගම්හි ගිනිලමින් රාජ්‍ය
63 යෙන් හාගයක් විනාස කළහ.........ආදිත්‍ය ද්‍රව්ඩාධිකාරීන්
විසින් අධිෂඨිත නෛකාතොමෝද එම රට පපාළනම්
64 තොට බටුවා එසේම දෙමළඅධිකාරීන් ප්‍රධානකොටඇති
ජනයෝ වෛරීන් විධ්වංශනය කරනානාවූ ඝොරවූ බිහිසුනු
65 යුද කෙරෙමින් ජනපද වැසි බොහෝවූ ඒ (අරමණ) ජන
66 යන් ජීවග්‍රාහයෙන් අල්වමින් එකල්හි අරමණනම් ඒ රට
අත්‍යර්ථයෙන් ඇලලූහ.

පසුව හිමවික්‍රම ඇති සිංහලයෝ ක්‍රමඋල්ලඞ්ඝනය කළ
නුවරට වැද ශත්‍රුයෙන් කම්පිතවූවෝ අරමණ හිමියා

67 මැරූහ. ~~~~ ඒ රට අරමණයන් මැඩ රජය සංහිඳවාගත
68 කොටගෙණ ඒ මහාවීරයෝ ප්‍රවරවූ සුදු ඇත්කඳ නැගී විග
ත භයඇත්තෝ ඒ නුවර පැදකුණු කෙරෙමින් පසුව ලඞ්කා
69 ශ්වරයාගේ ආඥයෙන් එහි අණබෙර කරවූහ. එකල්හි රාම
ඤ්ඤරට ජනයෝ භයින් කම්පිතවූවාහු අනික් ආරක්ෂාස්ථාන
70 යක් නොදක්නෝ සියල්ලෝ එක්රැස්ව මන්ත්‍රණය කොට
“ මෙතැන් පටන් අවුරුදු පතා අප අතින් කැමතිතෙක්
71 සුංකම් පිණිස ඇත්තු ගෙණයායුතුයාහ. මෙසේ අපගේ
වස්තු වර්ගය උදුරන්නේම ලක්මිහිපල්තෙමේ මෙවැනිවූ
72 ඉතා ඉවසිය නොහෙනනක් යම්සේ නොකෙරේනම් එසේ
ඒරජහට අනුශාසනා වදාරන්නාවූ හැමකල්හි දයාබහුල ස්වා
මීන්වහන්සේලාවිසින් අපි සියල්ලෝ දයාකටයුත්තොමුය ”යි
73 මෙසේ කියා, හසුන්ගත් අත්ඇති සහිතිය දූතයන් ලක්දිව්
74 වැසි භික්සඝයාවෙත වහා එවූහ. ඉක්බිති නිකායත්‍රයවාසී
සඝයා බසින් මොලොක්බවට පැමිනි ලක්දිව් රජහට (අර
75 මණරට වැසි) ඔව්හු හවුරුදුපතා බොහෝ ඇතුන් එවන්
නෝ සත්‍යසන්ධාන ඇති ලඞ්කාධිපතියා හා නැවත සන්ධි
කළහ.

76 ඉක්බිති මදුරාපුරයෙහි පරාක්‍රමනම් පඬිරජතෙමේ යුද
77 කටවිවූ කුලසේඛරනම් සතුරු රජහු විසින් බලසෙන් සමග
අවුදින් සියපුරය වටලූකල දඹදිව්තෙලෙහි ශරණශී රජක්
78 හු නොදැක “ ශරණශීයානෙනි ශත්‍රුතෙජෝග්නියෙහි හුද
කලා පළගැටියෙක් බඳු මට ඔබගේ පාසගල් නැමති වජ්‍ර
79 පඤ්ජරය අභ්‍යන්තරයෙන් පිහිට වේවා ”යි මෙසේ කියා ලඞ්කා
නාථයා වෙත දූතයන් එවිය. ලඞ්කෙශ්වරතෙමේ ඔවුන්
80 බස් අසා (මේ කියනෙන්) “අප සරණවන්නෙක්හුගේ ආපදා
තොමෝ ඉඳින් බැහැර නොලනුලැබේ නම් අපගේ ඒ පැ
81 රකුම්බාබැව් කෙසේ ගැළපේද මා ඇසුරුකරණලද්දේ යම්
කිසි සතුරෙකුවිසින් දුෂ්ප්‍රසහය. සඳ ඇසිරුකළ සාතෙමේ
82 මෘගශත්‍රුවූ කවරෙකුවිසින් මඩනා ලද්දේද? ලක්පුර අධි
නාථය කුලශෙඛරයා මරා පඬිරජු සියරටෙහි පිහිටුවා එව ”යි
යෙදූයේය.

83 ඉක්බිති හොබනා විකුම් ඇති ලක්පුර අධිදත් යුද්ධොපාය
දන්නා සතුරු මහ වනයට ලැව්ගිනි බඳු අධනාථතෙමේ
84 “ එසේය ” යි රජහු අණ මල්වඩමක් සෙසින් හිසින් පිළිගෙ
ණ යුද්ධයෙහි දක්‍ෂවූ බොහෝ සාමන්තයන් කැටිව යුද්ධයෙහි
85 දුර්ධරවූ මහසෙන්විසින් පෙරටුකරණලද්දේ නුවරින් පිටත්
ව මාවටු පටුනට එළඹියේය.

86 කුලශෙඛර රජතෙමේත් අඹු දරුවන් සහිත පඬිරජු මරා
87 මධුරානම් පුරය (පැහැර) ගත්තේය. මහරජහු විසින් එප
වත් අසා "උග්‍ර විස උපනාකක්හට වත් රජය ගෙණ දේ
88 වා" යි නැවතත් නියොගකරණ ලද්දාවූ අඬනාථතෙමේ
මෙතෙර තලවිල් නම් තොටට ගියේය. නොයෙක් සිය
89 ගණන් නැවට මහබලසෙන් නංවා (ඉන්) පිටත්ව මුහුදු
පිට එක් රෑ දවාලක් ගොස් (එහි) ගියේ එතර දැක එහි
90 සතුරුසෙන් සිටිබැවින් නැව්හිදීම සියලු බල සන්නාධ කර
91 වා ඉතා ගැඹුරෙහිම නැව් නවත්නා බැවින් එහිම බට
කල සියලු සේනාවගේ සන්නාහයන් තෙමෙන හෙයින්
92 ඒතෙමේ එක්කාද හොරු සියගණන්හි සෙන් නංගවා
ගොඩ සිටි දෙමළුන්විසින් (විදිනාලද) ශරවර්ෂා වැටෙන
කල්හි සම්ත් කළ සන්නාහයන් ඉදිරියෙහි තබ්බවා පඬිරට
93 තලවිල්නම් තොට බැස්සේය. තොට සිටි දෙමළුන් පලවා
94 ඒ තොට ගෙණ එහි වාඩිලාගත් මහාබල ඇත්තේ යුද සත
රක් කෙළේය.
95 වඩවලත්තිරුකඩනාඩාල්වාර් නම්වූය එසේම කුඩයමුත්තු
96 රායර නම්වූය විලලවාරායර නම්වූය අඬුකොට්ටනාඩාල්
වාර් නම්වූය නරසීහදෙව නම්වූය යන මේ සාමන්තරජුන්
97 පස්දෙනා යුදපිණිස ආකල ඔවුන්සමගද යුදකොට බොහෝ
දෙමළුන් මරා උන් අසුන් ගෙණ මහසෙන් පලවන්නේ යුද
පසක් කොට රාමෙශ්වරම ගත්තේය. වැලි නේතෙමේ එහි
98 හුන්නේම යුද නවයක් කොට දසවැනෙනහිදී ශිලාමෙඝය
99 නාරතුගබ්‍රහ්මහා රායරය ඉලඬිතිය රායරය එසේම අඬුකොට්ට
100 රායරය පලුඩියරායරය පණසියරායරය යන සාමන්ත
රජුන් සදෙනහා සටනී සාමන්ත රජුන් පස්දෙනා මහත් බල
101 සෙන් ගෙණ එලඹියවුන් (හා) නේ (ලඞ්කානාථ) තෙමේ යුද
කොට ජයට පැමිනා බොහෝ අසුන් ගෙණ දෙමළුන් මරව
102 මින් රාමෙශ්වරම පටන් සතර ගවුමත්තෙහි මුහුදුදෙකට
අතුර පිහිටි කුන්දුකාල්නම් තැනට ඒ (රාමෙශ්වරමෙන්)
103 ගියේය. බොහෝ දෙමළු භයින් පලාගොස් වලට වන්නාහ
පසුව ඔවුන් අල්වාගෙණ හිසිවෙක් එහි උල තැබ්බවී.
104 "දෙමළුන් විසින් පූර්වයෙහි බිඳිනාලද ලක්දිව්හි සියලු සෑ
උන්ලවාම කරවිය යුතුය' යි ලඞ්කාධිපති (රජහු) විසින් අණ
105 වූ කළ සමහරුන් ලක්දිවට පමුනුවා රුවන්වැලිසෑයෙහි
කර්මාන්ත කරව්ය. ලඞ්කාශ්වරතෙමේද දෙමළුන්විසින්
106 බිඳිනාලද ඒ සෑය පෙරලා බඳවා අවසානයෙහි කොත් ප
ළඳන පෙළහර කරන්ට ඇමතියන්හා පිරිවර කැටිව අනු

107 රාපුරයට ගියේය. ලක්දිව්හි මහාභික්ෂුසඞ්ඝයාද රැස්කර
වී. ඒ සඞ්ඝසමූහයාට සිවුපසයෙන් උපස්ථාන කෙරෙමින්
108 තුටුස්වක් පැමිනි කල නුවර බෙර හසුරුවා "නුවර අලඞ්කා
ර කෙරෙව්වා ගඳමල් ආදිය ගෙණ මහජනතෙමේ මඟසෑ
තැනට සෙට යේව" යි නියා සියලු පූර්විධිය මොනවට කරවා
109 පුණුපොහෝ දිනයෙහි නක්මිණියෙන් ගහනවූ මෞලි
110 මාලා අඟදුදි මහඟු අබරණින් දෙවලීලායෙන් සැරසෙන
ලදද් දිවසරන් විලසින් මොනවට සැරසුනු සිරුරු ඇති
111 නොයෙක් සියගණින් ඇතොවුරන් විසින් පෙරටුකරණ ල
දද් නන්අබරණවිනින් විසිතුරු වෙසින් ළිලෝපෙතවූ
112 මහායසස්ඇති නොයෙක් සාමන්ත රජුන් විසිනුදු අනුගත
113 වනලදුයේ සියොලඟ පහන් පුදින් සෑය පුදනායාවූ දිලි
යෙන රත්සන්නාහඇති ඇත්අස් මුළින්හා ජනරාසි හා
114 රයෙන් මැඩ පොළෝතෙල ගල්වනනා සෙයින්ද සත්සෙ
115 මෙරදෙදෙන් දිසාම්බුධය වසනනාමෙන්ද නන්තුරු රැවින්
116 ගිරිගුහා බිඳිනා සෙයින්ද සිරිසැපතින් ලෝ වැසසා නෙත්
සතුටු කඳුලූ ගන්වමින් සරඹුකොඩි කෙඩිකා තල්වැට කල
117 සාදී ස්වර්ණාභාණ්ඩයන්ගේ රසින්එතැන පිගුවන් කෙරෙ
මින් ඒ (රජතෙමේ) රජමැදුරින් අවුත් ජයාව වැඩෙනකල
හෝ (සවස්වේලෙහි) සෑ මිදුලෙහි දෙව්රජ සිරින් සිටගත.
118 නොයෙක් සියගණින් භික්ෂුහුද පබලු පිළිකඩින් සෑය
119 වටලනනවුන් සෙයින් අවුදින් පිරිවැරූහ. රජතෙමේ සෑ
මතුයෙහි රන් කොත තබා මඤනකයෙහි සිටි හිරුමඬුලු ඇ
120 ති කෛලාශශ්‍රිය ලොකයාහට දැක්වී——එදවස් රජහුගේ
පහන් පූජාවෙන්දෙ සැයෙහි පිහිටි රන්කොතින්දෙ නු
121 වර රැ නැහෙනසේ වී. මෙසේ පරාක්‍රමබාහු මහරජතෙමේ
උතුම් සෑය පිළිබඳ මහපෙළහර කරවා පොළොන්නරු
122 පුරවරටම එළඹියේය.

ඒ අධනාථතෙමේත් එයගේ චිරඃථිති කැමැත්තෙන් කු
123 න්දුකාල්නම් පෙදෙස පරාක්‍රමපුර නම්වූ කඳයුරක් කරවී.
දෙදහස් සාරසිය රියන් අයම් ඇති උන්නතගවූ පහන් මුවා ප
124 වරු තුණක්හා දොළොස් දොරටුවෙක්හා චතුශ්ශාලාවක්ද
කරවා මුහුදින් මුහුදට දිය යම්සේ යේද එසේ පරිඛාත්‍ර
125 යක්ද කරවා ඒ බලකොටුවෙහි වෙසෙමින් කඩක්කුඩිය නා
මිවූය චොළගඟ නම්වූය යනාදි සාමන්ත රජුන්ද ගෙන්
126 වී——මෙසේ දවසින් දවස සිංහලයන් බලවැඩෙන කල
කුලශෙඛර රජතෙමේත් එයින්ම උන් පලවන්ට සුන්දරපඬි
127 රජනම පඬිරජනම යනදෙන්නාහා අනෘවූ බලවත්වූ

128 බොහෝ සාමන්තරජුන් නැවතද මෙහෙයී ලන්දූරනම්
(ප්‍රභූරාජ) තෙමේ උන්හා යුද්ධතුනක් කොට උන් පලවා වරු
129 කොට්ට නම් ගම ගත්තේය. ඉනුදු පිටත්ව එම සාමන්ත
130 රජුන්හා එක්වත් ආළවන්දපෙරුමාල්නම් දෙමළාහා මහ
යුද කොට ජයට පැමිණ කොලුවූරු නම් ගමහා මරුථූප නම්
ගම ගත්තේය.

131 ඒ දණ්ඩනාථතෙමේ කඩ්කුඩිය රටද කොලුඋරු රටද මරවර
132 නම් හටයන් වසඟ කෙළේයි. වීරගඟයාගේ රට කුණපදූය
133 නල්ලූරුය යනාදිවූ බොහෝ ගම්හා නියංගම් කොලලකා
මහා බල ඇත්තේ මාළව රායරනම්වූ බලවත් සාමන්ත රජ
134 හුද දෙමළ දහසුන්ද වසෙහි කොට එහි විසීය ඉක්බිති
ඒ තෙමේ එයින් පරාක්‍රමපුරයට සෑනියබලසේනා බත් විය
135 දම් දිමෙන් සතපසනට පෙරලා ආය. එමින් අතරමග වඩලි
නම් ගම හුන්නාවූ ආළවන්දයාහා යුදකොට උහු මැරීය.

136 ඉක්බිති සිංහවික්‍රමඇති යුද්ධක්‍ෂම මහාසේනා සම්පන්නවූ
යුද්ධොපායෙහි පණ්ඩිතවූ බලවත් කුලශෙඛරනම් රජතෙමේ
137 බොහෝ බලවාහන ඇති මහ ඇමතියනුදු මෙහෙයා උහු
දිනනු නොහැකිවූයේ තෙමේම යුදපිණිස නික්මිනි

138 මාළවචක්‍රවර්තිනිය මාළව රායරය පරිතතිකාකුඩ යාරය තොඩ
139 මානාරය තුවරරට අධිපති වේළාරය විරපෙපර රායරය
140 සෙඩ්කුඩ්ය රායරය නිකලධ රායරය. කරුමඹලතන රාය
රය එසේම නකුල රායරය පූංකොඩනාඩාලවාරය කරඹ රා
141 යරය. ඛඩ්යූරුය ඵලඹූරුය යන නාඩාලවාර දෙදෙනාය
142 කාගයාරය විරගඟය වෙමුව රායරය. අලතතුරුනඩාල්වා
රය මණ්ණය රායර තුන්දෙනාය කලවඩිය නාඩාලවාරය
143 කෙරළසිංහ මුත්තරය. මේ ආදී සාමන්ත රජදරුවන්හා
144 යට කියනලදවුන්ද ගෙණ පැරකුම් පඩි රජහුගේ රට සෙ
සු බලසෙන්ද මයිලන් දෙදෙනාගේ කොඩ්ගුරට දෙක්හි සිය
145 ලු බලසෙන්ද තමා අයත් ත්‍රිණවෙලි රජයෙහි සියලු බලසෙ
146 න්ද. නිච්චිනොදමාන රායරය පට්ටිරායරය තඹ්කුතන රාය
රය තොමපිය රායරය. ආළවන්දපෙරුමාළය චොළ කොනා
147 රය එසේම තඹ්ගිපෙරුමාළය අළඹිය රායරය මාණාභරණ
148 රජය අවන්‍ඩිය රායරය මුන්‍ඩිය රායරය විට්ටාර දෙමළය මෙ
149 නී සාමන්ත රජුන්ද මහත් බල වාහනයන්ද ගෙණ පරා
ක්‍රමපුරයවෙත අවුත් "සිංහලයන්ගේ හිස් සිඳුම කොට රා
150 මෙශ්වරම් දෙවොලෙහි මේවර මාගේ දේවපූජාව වනෙන්
ය" යි සිංහ ගර්ජනාවෙන් ගර්ජනා කොට එරුකොට්ට
නම් ගමද ඉඩගලිසසර නම් ගමද කඳවුරු පිහිටවී.

151 පසුව පරාක්‍රම පුරනම් කඳවුර කොල්ලකන්ට කුලශෙඛර
152 තෙමේ ගොඩින්ද බොහෝ (දෙනා) නැව් නගා මුහුදුපිටින්ද
153 මහසෙන් මෙහෙයී. මෙසේ නොයෙක් දිගින් අවුත් මහාසේ
නා යුද කරණකල සමුද්‍රයන් දෙදෙනෙකුගේ ඉවුරු උතු
රන්නා බඳු වී. ඉක්බිති ඒ ලඞ්කාපුරනම් (ද්‍රහුරාජතෙමේ)
154 මහාසේනා සනනාඩ කරවා කඳවුරින් නික්ම ඔවුන්හා යුද
කරනට පටන්ගත. ඉක්බිති ඒ දෙමළ සේනාතොමෝ යුද
155 කරනානි මහ යුදෙහිදී ඛඩ්ගප්‍රහාරයටද අනල්පවූ ශරවේධ
යටද පැමිනා නලානතවූවා සිය කඳවුරට පෙරලා ගියාය.
156 මෙසේම අවුදින් තෙපණස් යුඩයක් කළා—ඉක්බිති
157 කුලශෙඛර රජතෙමේ යුඩයක් යුඩයක් (පාසා) පරාජය දැ
ක තෙමේත් කඳයුරින් (නික්ම) යුදපිණිස බලසෙන් මෙ
158 හෙයී. ලඞ්කාපුරනම් (ද්‍රහුරාජ) තෙමේ සියලු දෙරටු හරවා
මහා ශෛලයක් සෙයින් සියසෙන් ඉදිරි කොටගෙණ නික්
මුනේ යුද කොට බොහෝ දෙමළුන් මරා අසුන්ද ගෙණ ජ
159 යට පැමිනා ලුහුබඳනේ කුරුඹඩ්ඩකලියට ගියේය—එහි
160 කඳයුරක් කරන්ට පටන්ගත්කල කුලශෙඛර රජතෙමේ යු
දෙහි බුන් ඒමහාසේනාවද එකතු කරවා සාරභූතවූ තමාහා
161 සමානවූ මහසෙන්ද ගෙණ තෙමේම අවුත් පිළිසතුරුන්ට
භය එලවන්නේ යුද කෙළේය—කඩුනැමති මසුන් දහ
162 සුන්විසින්ද අශ්වනමැතිරල සියයන් විසින්ද පදික සේනාජ
ලහාරයෙන්ද කුඩනැමති පෙනපඩ්කතීන් විසින්ද හි
නමැති ගගාවන්ගේ නිපතනයෙන්ද බෙරහඩ නැමති ගිගු
163 මෙන්ද එකල යුඩභූමිතොම මහාණිවය සෙයින් බිය එල
වනානි වී. මෙසේ මහ යුද පවත්නාකල මහා වික්‍රම සංපන්න
සිංහලයෝ භුජකඩුනිය දුරු කළෝයි.
164 විලලව රායරනම්වූවහුද චොළ කොනාර නම්වූවහුද යා
165 ධව රායරනම්වූවන්ද ඉතා මහත් බලඇති සාමන්තයෙක්ද,
නොයෙක් සියගණන් භටයන්ද සියලු රාජාමාත්‍යයන්ද මැ
166 රූහු; කුලශෙඛර රජු නැඟී අස්හුද විද්දෙයි—ඉක්බිතිව
සෙනාසඟින කුලශෙඛර රජතෙමේ සිංහලයන්ගේ මහාඛ
167 ඩ්ගප්‍රහාරයට අවසර දෙන්ට සෙයින් පිටු දැක් වී. යුදෙහි
පලායන උහුවිසින් හුදක් වික්‍රමයම හරණලද්දේ නො
වෙයි, සිංහාසනය ඡත්‍රය අලඩ්කාරාදිය යන මේද දැම්මේයි.
168 ලඞ්කාපුරනම් (ද්‍රහුරාජ) තෙමේ සතුරුවූ කුලශෙඛර රජ
169 හුවිසින් වාසයකළ එරිකකාවුරනම් බලකොටුවට ගොස් එය
ගිනිතබ්බවා පසුව තෙමේ අළුත් බලකොටුවක් කරවාගෙ
170 ණ මදකලක් එහි වැස එකල්හි ලඞ්කාවිදූතෙමේ. එයින් පි

ටත්ව වඩලියට වැද එයිනුදු ගොස් ඉක්බිතිව දෙවියාපට්ට
171 න නම් ජනපදය ලාහෙලා ගත්තේය, එයින් සිරිය වලයට
172 ගොස් කොළුවුක්කොට්ට නම්වූ ඒ බලකොටුවෙහි වසන්නා
වූ බුද්ධකඩකුඩ රායර නම්වූ (බලනායකයා) සැරහුනාහු කැර
173 යුඩ කොට පිඹහැර එසේම කුලශෙඛර රජහුගේ බොහෝ ඇ
මතියන්ද ඒ යුදෙහිදී පලවා ඒ බලකොටුවද ගෙණ මහගම්
174 සත්විස්සක්දදවා දනිකනම් ගම වෙසෙමින් බිහිසුනු පැ
රකුම් ඇති හේතෙමේ කොටය බූකකය යනනම්ඇති දෙතැ
175 නය බමුණුගමය යනමෙහි වසන පඩියඩාර දෙමළය චොළ
කොනාරය යාළුව රායරනම් සාමන්ත (රජය) එසේම විල්ලව
176 රායරය කාලිංග රායරය සුන්දරපඩු රායරය. නරසීහ දෙවනම්
177 දෙදෙනාය එසේම පඩිය රායරය යන මොවුන්හා. යුදකෙ
රෙමින් ඔවුනුදු බිඳ බොහෝ දෙමළුන් මරවා බොහෝ අසුන්
178 ගෙණ සංජාත බලවාහන ඇතෙත්, පසුව කුඩයන්තේක
179 නම්වූ තැන වසනොත් කුඩයමුත්තු රායරය එසේම කඩිලි රා
යරය යාළුව රායරයයි යන සාමන්ත දෙමළරජුන් තුන්දෙනා
180 වසෙහි කොට ඒතැන්හි වෙසෙමින් ස්ථාන දන්නා හේතෙමේ
වික්‍රම චොළපෙරර නම් බලකොටුවෙහි පඩිය රායරය පඩි
181 මඩල නාඩාල වාරය වීරමග රායරය කඟකොඩපෙරයරය
යන මොවුන් තුන්දෙනාද කාමතුකොට්ට (රට) වැසසන්ද
182 මහාවීරතෙමේ එකල්හි වසඟ කොටගෙණ මහ යුදකරණු
කැමැතෙත් මරුටුකොට්ටයට ගියේයි,
183 එහිද චොළකොනාරය තොණ්ඩියය එසේම අන්‍යවූ සුන්ත
184 ඩාර සාමන්තය වීරගඟර දෙමළය එසේම කුන්තඩාරය ය
න මේ ආදීන්හා මහ යුද කොට තොණ්ඩිය(බලනායකයා) එහි
185 දී ජීවිතක්‍ෂයට පමුනුවා උහුගේ අසුන්ද ගෙණ බොහෝ දෙ
මළුන් මරවා මනෙනහි කඟකොට්ටානයයි ප්‍රසිඩවූ බලකොටු
186 ව ගත්තේය. එයින් නික්ම පණිවනම් තැන්හි හුනෙන්, අළ
තතුර නාඩාල්වාර දෙදෙනාය පණ්ඩිය රායරය විල්ලවා රායර
187 ය චූලලකඩකුඩ රායරය යන මොවුන්හා මහ යුද කොට එහි
188 ඔවුන් බිඳ පණිවකොට්ටය ගෙණ එතනින් හැරී ඒතෙමේ
කඟකොට්ටාන නම් තැනටම හුන්පරිද්දෙන් අවුදින් එයින්
189 අණිවලකොට්ටයට යුද පිණිස ගොස් එහිද බඩමාළව රාය
190 රය වීරගඟර දෙනනාය චොළකොනාර නම් දෙමළය යන
මොවුන්හා මහ යුද කොට ඒ සියල්ලන් බිඳ බොහෝ දෙම
ළුන් මරවා බොහෝ අසුනුදු ගෙණ ඒ බලකොටුව සහ නෙ
191 ට්ටූරුවත් ගෙණ තෙමේ එහි හුනෙන්ම කුන්තාඩය වීරගඟ
ය තහිපෙරුමාල්ය යන (බලනායකයන්හා) උන් ඇසුරු

192 කළ නොයෙක් සියගණන් දෙමළුන්ද එසේම ඉලඬ්ගිය රා
යරය අඩුකෙකාවා රයරය (යනමොවුන්ද) වසෙහි කොට
193 ගෙණ (මිණි) කොඩොල් ආදී අබරණ (ප්‍රසාදපිණ්ස) දී
194 ඉක්බිති ඉලඞ්කි රායරයාහට රාජවෙසිභුජග සිලාමෙඝයයි
යන අභිපසිත (විරිදු) නාමයදී.

195 මේ අතුරෙහි පරාක්‍රම පඬිරජහුගේ දරුවූ විරපඬු කුමාර
196 යයි ප්‍රසිඩවූ සැමට බාල කුමාරයා පුත්‍රභායඝාවන් සහිත මර
ණප්‍රාප්තවූ සතුරන් වසගයට පැමිනි පියරජහුගේ ජීවිතඝෂ
197 යට පැමිනිමෙහිදී එක්තරා උපායෙකින් සතුරන් අතින් මිදු
නහු හයින් නොඅවුත් මලයනම් රට හුනානහු අසා(උහුවෙත)
198 දූතයෙක් යැව්ය. "මම මෙහි මහයුදෙහිදී ඇමතියන් සහි
ත කුලශෙඛරරජහු නොයෙක් වට දිනා රාජ්‍යයෙන් භාග
199 යක් ගෙණ ප්‍රමාණයෙන් දෙතුන් ගව්වක් පමණවූ මදුරාපුර
යට නුදුරු දෙශයෙහි පැමින සිටියෙම් වීම්; අපගේ ස්වාමිතෙ
200 මේද තොපගේ පියරජහු අනුරක්ෂණය පතනෙන් සතුරන්
විසින් ඒ නරනායකයා නැසූකල්හි එපවත් අසා "මා සරණ
201 ගියාවූ (ඒතෙමේ) ඉදින් එසේ සතුරුරජහු විසින් නසනලද
202 නම් දැන් උහුද මරා පරාක්‍රම පඬිරජහුගේ ඒ රාජ්‍යය ඒ වංශ
යෙහි උපන්නාවූ කිසිවෙක් ඉදින් විද්‍යමාන නම් උහුටවත්
ගෙණ දෙව්ය" යි අප මෙහෙයූසේක එහෙයින් (සිතෙහි)
203 භයක් නොකොට වහා අවුත් පියසනාතකවූ රාජ්‍යය අනුශා
204 සනා කරව්ය" යි සත්‍ය මෘදු වදන් කියා (යවීය). කුමරතෙ
මේද ඒ වෘත්තාන්ත ය විධිවූ පරිඡෙදන් අසා කල් නොගෙවා
උහුවෙත එළඹියේය.

205 එකල්හි කිසිවක්නැති කුමරහු ආබැව් කියා ලඞ්කාපුර (ප්‍ර
206 භුරාජතෙමේ) මහරජු පිළිබඳව ලඞ්කාවට පතක් එව්, මහ
රජතෙමේ එපවත් විධිවූ පරිඡෙදන් දැන භොජනයට සුදුසුවූ
207 ස්වර්ණමය රජතමය නොයෙක් බදුන්හා රන්මුවා රිදීමුවා
බොහෝවූ ප්‍රදීපාධාරයන්ද මාංගැල්‍යවූ තමන්ගේ වස්ත්‍රබඳුවූ
208 අඳනට සුදුසුඳැඳ කර්ණකුඩලා හා මුතුවැල්ද රුවන්මුවා වල
209 ලුද මේආදි (භාණ්ඩයන්) සතුටුවූ (රජතෙමේ) සතුටු පඬුරු
කොට යැවූයේයි. ඉක්බිති කුමාරතෙමේ ඉතා ආදරයෙන්
ඒ පඬුරු සියල්ල රජහු දිසාවට වැඳ භයසහිතව පිළිග
තේත්ය.

210 එකල්හි මහාබල ඇති ඒ ලඞ්කානාථ තෙමේ මුඞ්ක්කාර (රට)
211 බඩදෙව මාළව රායරනම් තැනැත්තාහුද යුදකොට එතැ
නින් පලවා කීළමගලනම්වූද මේල මගලනම්වූද යන දෙ
212 රට දෙමළුන් වසඟ කොටඑහි වෙසෙමින් පසුව විරතෙමේ

එකල්හි භයපරවශවූ සිත්ඇතිව පහදුමන්ඇතිව සරණ
213 පිණිස ආවාවූ මාළව රායරයා පූර්වස්ථානාන්තරයෙහි පිහිටුවා
214 මුඛ්‍යකාරයද පෙරලා දී මඟුලදෙරට ප්‍රධානද කොට
මුඛනානංකොඩගතවූ ගොකණ්ණිනාඩ නායක කොට අ
ණ්වලක්ඛි කොට්ටයෙහි ලඞ්කාපුරතෙමේ එකල විසීය,

215 ඉක්බිති තෙමේම එයින් නික්ම ලාහෙලා නෙට්ටූරුවට වැ
216 ද මානවීර මධුරාවෙහි සාමන්තයන් සමගද, අලත්තුරු නා
ඩාල්වාර දෙදෙනාය කාලිඟ රායරය කලිකාල රායරය යන
217 මොවුන් සමගද මහයුද කොට බොහෝ දෙමළුන්හා කා
ලිකාල රායරයාත් මරා මහත් බලඇත්තේ ඒ මධුරාව
218 අත්පත්කොට ගෙණ; පසුව බොහෝ දෙමළුන්ද එසේම
මුවරය (නම් රායරයා) ද කරුම්බුඑත්ත රායරයාද තමා ව
219 සඟ කොටගෙණ බලවත් හේතෙමේ අලත්තුරනාඩාලයා
220 ගේ දුර්ගයට ගොස් කාලිඟ රායරය චූලලකඩකූඩ රායරය
යන මොවුන්හා මහයුද කොට දුරතික්‍රම භීමවික්‍රම ඇතෙක්
221 ඔවුන් එතැනින් පලවා ප්‍රසිද්ධවූ ගම් කිහිපයකුත් ගිනිතබ
වා මහාවීරතෙමේ නැවතත් නෙට්ටූරුවටම එළඹියේය,

222 එකල අතුණුදිගින් චූලලකඩකූඩ රායරය අලත්තුරු නා
223 ඩාල්වාර දෙදෙනාය මණ්ණය රායරනම්වූය පරිතාතිකාදැඩි
යාර් නම්වූය එසේම සෙඩකුඩි රායරනම්වූය යන බලනායක
යන්හා සඞ්ග්‍රාම විධානයෙහි කොවිදවූ අන්‍යවූ බොහෝවූ
224 දෙමළද කුලශෙඛර රජහු අභ්‍යන්තරික සාමන්තවූ කාලිඟ
රායරතෙමේද තෙන්නපල්ලව රායරතෙමේද ආළවඳපෙප
225 රුමාල්තෙමේද යනමේ පැරදවිය නොහෙන්නෝ සිය
226 සෙන් සන්නද්ධකොට නික්ම සාහසයෙන් යුත් සිත් ඇත්තෝ
පාතපතනම් තැනට එළඹියහ.

227 ඒ වාරයෙහි සතුරුවිජයපිණිස කරණලද නිශ්චය ඇති
228 වූහ——ඉක්බිති විධානයෙහි දක්ෂ ලඞ්කාපුරතෙමේ ඒ වි
ධාන අසා බොහෝ බලවාහන ඇති සාමන්තයන් එහි යවි·
229 ඔව්හු එහි ගොස් ඒ බලකොටුව හාත්පසින් වටලාගෙණ
බලකොටුව වෙත මහගම් විස්සකුදු දවා පසුව එපවත් කියා
230 ලඞ්කාපුරනම් (ප්‍රභුරාජයා) වෙත "බලකොටුව පැහැර
ගන්නමෝද නොහොත් එසේ නොකරන්නාමෝද්ද" යි
231 දැනගන්ට දූතයෙක් යැවූහ. ඒතෙමේ ඒ අසා නැවතත්
මහ සේනාවක් යවා "බලකොටුව පැහැරගණිව් ය" යි
කියා හසුන් යැවීය.

එකල්හි ඔව්හු සියල්ලෝ උභූවිසින් එවනලද හස්න අසා
232 ඉතා බියකරු යුද කරණට පටන්ගත්තුය; කල්පාන්ත වාත
සඞ්ක්ෂොභයක් බඳුවූ ඉවසිය නොහෙන මහා යුඬයක් එහි
233 උභය සේනාවන් සම්බන්ධවූයේ විය, දහස්ගණන් දෙමළුන්
234 ජීවිතක්ෂයට පමුනුවා එසේම (කුලශෙඛර) රජහු අභ්‍යන්ත
රිකවූ තෙන්නපල්ලව රායරනම් (ඇමතියාද) මරා ආළ
235 වඳුපෙපරුමාලු විත්කා පලාගියකල උභූනැගි අසුද
අතිකුත් බොහෝ අසුන්ද ගෙණ සිංහවික්‍රම ඇති ඒ සිංහල
236 යෝ වීරශ්‍රී දෙවියගේ මුවපිසූම තුටුකරවමින් දෙමළ සෙන්
බින්දහ. පානපතනම් ඒ (පෙදෙස) අත් පත් කොටගෙණ
එහි සිටි සේනාව ලඞ්කාපුරතෙමේ පසුව තමා වෙතටම
ගෙන්වී.

237 පසුව ඒ ලඞ්කාපුරතෙමේ අණිවලක්කිකොට්ටනම් (තැ
නට) ගියේ මාළව චක්‍රවර්ත්තිහුද අඩුකොට්ටයන්ද වසඟ
238 කෙළේයි. මෙසේ තොණ්ඩිය පාසය යන (දෙරට) ගෙණ උතු
රුඅිග සතුරන් නැතිකොට සාධුපිණිස කුරුන්ඩන්කඩියට
239 හේතෙමේ ගියේයි. එහි වඑට්ටිය රායරනම් (සාමන්තරජු)
තමාවසෙහි කොට ගෙණ උහුට සවනීය පඳවියත් සවණ්
240 වලයාදියත් දී ඉනුදු නික්ම නැවත තිරිවේකම්බමනම්
(රට) ට ගොස් එකල්හි (එහි සිටි) සිලාමෙඝ රායරය එසේම
241 කණසි රායරය අඩුකොට්ටනාඩාල්වාරය යන (සාමන්ත
342 යන්) තමා වසයට ගෙණ මොවුන් සියල්ලන්ට පෙරසෙයින්
සතුටු පඬුරු දී පූංකොට්ටනාඩාල්වාර (නම් බලනායකයා)
ද තමා වසෙහි පමුනුවා මොවුන්ටද පෙරසෙයින් ප්‍රසාදදී;

ඉක්බිති සත්‍යසන්ධාන ඇති මහාවීරතෙමේ තමා වසඟ
243 වන්ට මාළවචක්‍රවර්ත්තීන් වෙත හසුන් යවා වැලි උහු (තමා)
නොදක්වා සෙන්පොන්මාරියට ආකල ලඞ්කාපුරතෙමේ
244 සෙන්පොන්මාරි (නම් නුවර) ගන්නාපිණිස තෙමේම එහි
245 ගියේය. ඒ නුවර ගන්ට පූර්වයෙහි ආවාවූ සොළිසේනාතො
මෝ වනාහි දුර්රුද්දක් එහි යුද කරන්නී ගන්ට නොහැ
246 කිවිල. එබඳුවූ යාමට දුක්වූ ඒ බලකොටුව සිංහවික්‍රම ඇති
ඒ සිංහලයෝ දිනයාගේ අර්ධභාගයක් කළදු පසු නොකොට
247 පවුරු දෙකහා දොරටු සතර බිඳ වෙන වෙන ඇ
248 තුත් සෙයින් දුර්ගය ඇතුළට වන්නාහ. එහි නොයෙක් සිය
ගණන් දෙමළුන් මරා මෙසේ ඔව්හු සෙන්පොන්මාරිනම්වූ
ඒ නුවර ක්ෂණයකින් පැහැර ගත්හු.

249 එකල්හි කලලරසේනාවය නැවත මරවරයෝය එසේම
ගෝළි හළයෝය වැලි එසේම කුනානවරයෝය වලලකාකු
250 ත්‍ථාර සේනාවය එසේම ඌවෙන සේනාවය එසේම අඩු
251 කෝකාට්ටයන්ගේ දෙශයෙහි බලවත්වූ සේනාවය යනාපණස්
දහස් සැට දහස් ගණනට ගියාවූ ඉතා උදාරපරාක්‍රම ඇති
252 දෙමළ මහාබලය, සිංහලයන් සිටි ඒ බලකොටුව වටලා
පසුව ඉතා බිහිසුනු තර යුද කරණට වහා පටන් ගත~~~~
253 ඉක්බිති දකුණු දෙරටුවෙහි දොර හැර දේවලබ්ධාපුරනම්
වූය එසේම සෝරලබ්ධාගිරිය යන ඉක්මවිය නොහැකි
254 වික්‍රම ඇති (බලනායකයෝ) සිය සෙන් සහිතවූවෝ දහස්
255 ගණන් දෙමළුන් ජීවිතක්ෂයට පමුනුවා ඒ දිගින් ආවාවූ
ඉතා උග්‍රවූ දෙමළ බලය ඇත්මුළක් සිංහයන් සෙයින්
256 සිංහවික්‍රම ඇතිව බින්දහ~~~~ගොකර්ණදණ්ඩනායකනම්
වූද ලොකකෙසධාතුනම්වූද (සේනාපතීහු) එකෙණෙහි
257 එම දකුණු දොරින් නික්මගෙණ සතුරන්ගේ බොහෝ
භටයන් රණබිම්හි මරවා නසනලදීන් ඉතිරිවූ සියලු ස
258 තුරු බලසෙන් භගනකළහ. මහත් බලඇති කීර්තිකේශ
ධාතුනම් බලනායකය ජගද්විජයනම්වූ ලංවිය නොහෙන
259 එක් සාමන්තයෙක යන වීරයෝ දෙදෙනා උතුරු දොරින්
බැහැරව දෙමළයෝධයන් අතුරෙන් බොහෝදෙනෙක් ජී
විතක්ෂයට පමුනුවා දෙමළුන් අයත් බලසෙන් වහා බින්
260 දහ. මෙසේ එදවස්ම සිංහලයෝ ක්ෂණයකදී දෙම
ළුන් අයත් සියලු සේනා මරාද පලවාද බොහෝ අසුන්
261 ගත්තාහ. දිනන ස්වභාඇති ප්‍රසිද්ධවූ අනෙක වික්‍රම ඇති
ඔව්හු සෙන් පොන්මාරියයි ප්‍රසිද්ධවූ බලකොටුවටම පෙර
ළා අවුය.

262 එකල්හි කුනානවරයෝය එසේම කලලර සේනාය ගෝළි
හළයන්ගේ සේනාය මරවරයන්ගේ සේනාය වලලකාකු
263 ත්තාර සේනාය එසේම ඌවෙන පිරිසය ඵලසූරුනාඩාල්වා
264 රය එසේම කාහයරය යන මේ දෙදෙනාගේ සේනාය එ
සේම ඵලසූරුනාඩුවාසීහුය කලහයිනාඩුවෙහි සේනාය ඵල
265 සූනනාඩුවාසීහුය කාකනනාඩුවාසීයයි යන දෙමළ බලසෙන්
හා සොළීදෙශසීමාවෙන් (මොබ) චෝලලාරුනම් ගම දක්
266 වා මොබ රට වැසි සියලල තමා වසගයට ගෙණ ආයේ
ය~~~~හේතෙමේ යථානු පූර්වයෙන් මොවුන්ට ප්‍රසාදද දිනී.
267 එකල්හි වෛශ්‍යයන්විසින්ද යොනුන්විසින්ද ගෙණෙන
ලද පඬුරු ගෙණ ඔවුනුදු බොහෝ ප්‍රසාද (දිමෙන්) සත්
268 කාර කොට පෙරලා සරණපිණිස ආවාවූ මාළවචක්‍රවර්ති

නම් (බලනායකයා) සෙන්පොන්මාරි (නුවර) දී උහු සිය
269 පදවියෙහි තබා එයින් පිටත්ව තිරුවේකම්බමයට නැවත
අවුත් ඉතුදු නික්ම කුරුඳුඞ්කුඩියට ආයේය.

270 එකල්හි බලවත්වූ කලවඩිනාඩාල්වාර්තෙමේ යුද කොට
මාළුව රාජරයා කෙරෙන් මුඩික්කාරය පැහැර ගත්තේය.
271 එසේකල මාළුවරාජරතෙමේ අනික් සරණක් නොදක්නේ
"මට ඔබ සරණවෙව" යි ලඞ්කාපුර දණ්ඩනාථයන් වෙත
272 එළඹියේය. එකල ලඞ්කාපුරතෙමේ කෙසධාතුය ලොක
සම්මතවූ කීර්තිය ලොකනාථය යන දෙදෙනාය ගොකණ්
273 දණ්ඩනාථය යන උතුම්වූ සාමන්තයන් කැඳවා යුද
274 කොට මුඩික්කාරය ගෙණ උහුටම දෙනුපිණිස නියොග
කෙළේයි—ඔව්හු එහි ගොස් දුරතික්‍රම යුදකොට (කලව
275 ඩියනාඩාල්වාර නම්වූ) උහු එයින් බැහැරලා බොහෝ දෙම
ළත් මරා මාළුව රාජරයන් නැවතත් යථා ස්ථානයෙහි තබා
තුමූ එයින් ලඞ්කාපුර (දණ්ඩනාථ) යන් වෙතටම පෙරලා
අවූය.

276 තවද පූංකොඩනාඩාල්වාරනම්වූ අනික් සාමන්තයෙක්
තෙමේ සිරියවලනම්වූ තැනට අවුත් එහි වෙසෙමින් මාළුව
277 චක්‍රවර්තීන්හා මහයුද කොට ජයංකොට්ඨානායයි ප්‍රසිද්ධවූ ග
278 මට උහු පලවා තෙමේ එකෙණෙහි සේන්පොන්මාරිය අත්
පත් කොට ගත.

එකල්හි ධීරයන් අතුරෙන් ප්‍රවරවූ ලඞ්කාපුරතෙමේ ඒ ක්‍රි
279 යාව අසා තෙමේ එකෙණෙහි අණිවලක්කිපුරයෙන් පිටත්
280 ව සෙන්පොන්මාරි (කොටුවගන්ට) තිරිවේකම්බමයට ගි
යේය. පසුව පූංකොඩනාඩාල්වාර්තෙමේ ඒ විධාන අසා
281 හයින් සෙන්පොන්මාරිය හැර එයින් සිරියවලයට ගියේ
ය—නැවත ලඞ්කාපුරවීරතෙමේ සෙන්පොන්මාරියට
282 එළඹියේය. පූංකොඩනාඩාල්වාරතෙමේ (ලඞ්කාපුරයන්ගේ)
වසෙහි වනෙනමැයි ආයේ, (තමා) නොදක්වා නැවතත්
සිරියවලයටම ගියේය—ලඞ්කාපුරතෙමේද සිරියවලනම්
ගමට ගොස් හාත්පසින් ඉතා බිහිසුනු යුද කරණට පටන්
283 ගත. ඉක්බිති පූංකොඩනාඩාල්වාර්තෙමේ "ඉදින් මම
ලබනලද අභය ඇත්තෙම්නම් ඔබ වසෙහි වනෙනම් ඉ
284 දින් නැත්නම් මහාභයපරාධීන වූයෙම් එන්ට නොහැ
285 කෙකම්,, මෙසේ හසුන් යැවී. ඒ අසා ලඞ්කාපුරතෙමේ "ප
හවූ භයඇතිව තෙමේම ඒ වා,, යි පිළිහසුන් යැවී.

286 ඉක්බිති විගතසාරද්‍ය ඇති ඒ තෙමේ සැබෑවෙන් සැබෑ ගලපනානාවූ ලඞ්කාපුර වීරයාගේ හස්තෙන් (උහු) වෙතට
287 උපාගතවී. පසුව ලඞ්කාපුරතෙමේ උහුට අනල්පවූ ප්‍රසාද
288 දී මාළව චක්‍රවර්තීහුද තමන්වෙත ගෙන්වා දෙදෙනා මිත්‍රු රූ කොට ඒ දෙදෙනා යථාස්ථානයෙහි තබා මහාවීරවූ ඒ
289 තෙමේ නෙට්ටූරුවට එලඹියේය—විනාශවූ රාජසිංහ ම හාලනම්වූ (ගම්හිද) විශ්‍රුත වාර්ගම්හිද විනාශ වැව්දෙක
290 ප්‍රකෘතිවත් කොට බඳවා එසේම ඒ තෙමේ සිරියවලයෙහිද පෙරුම් පයල්හිද වැව්දෙකක් බඳවා කෘෂිකම් කරවී.
291 කුලශෙඛර භූපාලතෙමේ තිුණවෙලියෙහි බලසෙන්ද තෙන්කොඟුය වඩකොඟුය යන දෙරට මයිලන්ගේ බල
292 සෙන්ද එසේම සාමදූතාදී නානානය දන්නේ එකල්හි බිඳුවා තමා වසගයට ආ බොහෝ දෙමළුන්ද ගෙණ සමප
293 න්න වාහන ඇත්තේ යුද්පිණිස එන්ට ආරම්භ කෙළේ ය—ඉක්බිති ප්‍රාඥ ලඞ්කාපුරතෙමේ ඒ විධාන අසා දුෂ්ට
294 නිග්‍රහ කෘත්‍යපිණිස ස්වාමීහුගේ අනුශාසනායෙහි පිහිටියේ ශඨ බුද්ධිඇති ඒ දෙමළුන් සමූලඝාතනයෙන් මැරවී—එ
295 කල්හි පිට්වහල්පිණිස පැරකුම්බා මහරජහුවිසින් මෙහෙ යන ලද ලොකාතික්‍රාන්ත වික්‍රාන්ති ඇති ජගද් විජයනම්වූ
296 [නායකතෙමේ] පාබලසේනාහා බොහෝ අශ්වසේනාවන් විසින් අනුගතවූයේ එතරවූ මහමුහුදු ඇත්තේ නොපසු බස් නා වියඤ ඇත්තේ අණිවලකතියට උපගත වි.
297 මහා යසස් ඇති ලඞ්කාපුරතෙමේ නෙට්ටූරුවෙන් නික්ම අණිවලකතියට එලඹ අධුනාගතවූ උහු දැක වැළඳගෙණ
298 සිහිකටයුතුවූ රම්‍යවූ කථාව කොට නිමවා නැවතත් නෙට් ටූරුවටම අවුත් පරමධනා හේතෙමේ එයින් නික්ම මුන්ද
299 න්නාඩයයි ප්‍රසිඩවූ ස්ථානයට එලඹ විශ්‍රුත වික්‍රම ඇත්තේ
300 ස්ථාන දන්නේ එහි සිට කීළකොට්ටනම් තැනද මඟලනම් තැනද දෙමළුන්හා යුද කොට බොහෝ භටයන් මරා ජීව
301 ග්‍රාහයෙන් ගතයුතුවූ බොහෝ වෛරීන් ගෙණ යුඩභූමි යෙහි ඉතිරිවූ බොහෝ අසුන්ද ගෙණ එයින් නික්ම ඔරි
302 තතියූරු තොඩමයට ගොස්—පුඩ්කොඩනාඩාල්වාරය සි
303 ලාමේඝරය අඩුකෙකාට්ට නාඩාල්වාරය යන මොවුන් හා මහයුද කොට භිමඋද්දම අතිශය වික්‍රමයෙන් යුක්තවූයේ
304 බොහෝ දෙමළුන් මරා එයින් සිරියවලයට ගියේයි. තමා වසයට නොපැමිනි පුඩ්කොඩනාඩාල්වාර් (නම් බලනායක)
305 යාගේ දෙමහල් ප්‍රාසාදයහා කොටුවද ගිනිලවා තිරික්කා න්නපෙරනම් තැනින් නික්ම ගියේය

306 එකල්හි ජගද්විජයනායකතෙමේ අණිවලකාභියෙන් නෙ
ට්ටූරුවට ගොස් ඉතුදු නික්ම මානවීරනම් මධුරාවද පත්ත
307 නල්ලූරුවද සොරඛකොට්ටයද යන මේ දුර්ගම දුර්ගයන් බිඳ
308 නැවත නෙට්ටූරුවටම පෙරළා අවුත් (එහි) වෙසෙමින් අ
ලත්තුරුනාඩාල්වාරයන්හා චූලලකම්කුඩ රායරයා වසඟයට
309 පැමිනවී. මහාබල ඇති වීරවූ හේතෙමේ නිසිකලෙක පත්ත
310 නල්ලූරුවට අවුත් එකල්හි ලඞ්කාපුරයන් වෙත "සිංහනම්
නදියට වහා ඔබවිසින් එන්ට යෙදෙයි අවශ්‍යයෙන්ම දැක
311 කිය යුත්තාක් විද්‍යමානය" යි අසුන් යවී. එපවත් අසා ලඞ්
කාපුරතෙමේ වහා ඉන් පිටත්ව මහාබලඇත්තේ මගට
පිළිපන්නේය.

312 තිරිප්පාලූරුයයි ප්‍රසිද්ධවූ තැන්හි සිටි සතුරුසේනාතොමෝ
සන්නාහ සන්නද්ධව සවිකියවූ බොහෝ අසුනුත් (ගෙණ)
313 අවුදින් අඞ්මාගීයෙහිදී බිහිසුනු යුද කරණට පටන්ගත්ති
314 ය— යුද්ධාඞ්ගමවීරවූ දෙවලඞ්කාපුරාදීන් සමග ඒ වීරයෝ
එහිදී ඒ මහසෙන් (විසුරුවනොනා) පතළ සූර්‍යක්ෂීරශම්භු අ
315 දුරුකද සෙයින් එකෙණෙහි බින්දූහ. මෙසේ එකෙණෙහි
ලඞ්කාපුරතෙමේ තිරිප්පාලූරුව ගෙණ කල්පාන්ත වහනි
316 බඳු පරාක්‍රම ඇත්තේ එහිම වාසය කෙළේය— මන්ත්‍රණ
යෙහි කොවිදවූ ජගද්විජයනම් සාමන්තතෙමේද යුද්ධශා
317 ස්ත්‍රයෙහි සමර්ත්‍යවූයේ පන්නාට්ට කොට්ටවාසිවූ දෙමළුන්ගේ
මහබලසෙන් යුද්ධාඞ්ගනයෙහිදී බිඳ බලකොටුව අත්පත්
කොට ගෙණ එහිම හිනි.

318 ඉක්බිති කුලශෙඛර රජතෙමේ බලාත්කාර ක්‍රියාවිශෙෂ
යෙන් යුක්තවූයේ තුවරාධිපතිවේළාරනම් තැනැත්තාහුද
319 තොඩමානරනම් තැනැත්තාහුද වීරපෙප රායර (බලනායක)
යාද එසේම නිගලධ රායරය කලවඞ්ය නාඩාල්වාරය එසේම
320 කාගය රායරය (යන සෙනෙවියන්) හැර ගෙණ සවිකියවූ
බොහෝ භටයන්ද සන්නද්ධ කොටගෙණ යුදපිණිස බඳ
321 නාලද කෑසපට ඇත්තේ රාජිනා (නුවරට) ආයේය—
බිහිසුනු පැරකුම්ඇති මහසෙන් ඇති ඒ තෙමේ බියකරු
සවිකිය සේනාව ලඞ්කාපුර(නම් ප්‍රභූරාජ)යාහා යුද කරණට
322 මෙහෙයී— එකල්හි ලඞ්කාපුර වීරතෙමේ විධානයෙහි
පණ්ඩිතවූයේ ජගද්විජය (නම්සාමන්තරජ) හට විධානවූ පරිද්
323 දෙන් ඒ විධිය (කියන්නේ) "කුලශෙඛර මිහිපල්හු පලවනට
මට සහායව එක් දිගෙහින් යුදකරණට සේනා සන්නාම
324 කොටගෙණ තොපවිසින් වහා ආගමන කටයුතුනොත්ය" කියා
හසුන් යවා එකෙණෙහි බලවත්වූ සවිකිය සෙනඟ ස්රහා

325 ගෙණ එයින් පිටත්ව දෙමළුන්හා මහයුද පැවත්වි — ඒ දෙමළු එහි ඇසිලලකදී බිඳුනෝ රාජිනා (පුරය) ට
326 පිවිස එහි කුඩා මහත් දෙරටුද ගොපුරයන්ද වසාගෙණ මිහිපල්හු සහිත සියල්ලෝ ඇතුළත සිටගත්හ.

327 එකල්හි පූර්වගමවිරවූ ගොකණ් දණ්ඩනායකතෙමේද ලොකනම් කෙශධාතු (සාමනාථ) තෙමේද එසේම දෙව
328 ලඞකාපුර සාමනාථතෙමේද යන මොව්හු එක්ව ගෙණ බටහිරි දෙර පවුරු බිඳ හෙලන්ටද ගොපුරයන් බිඳින
329 ටද පටන්ගත්හ — දෙවලඞකාපුර තෙමේද ගොකණ් දණ්ඩනායකතෙමේද ප්‍රාකාරයහා දෙරටුව බිඳ ඇතුළට
330 වන්හ. ඉක්බිති මහත් බලඇති මානි ලොකනම් කෙශධාතු තෙමේ "මම අනුන් ගිය මගින් නොයනෙනමැ" යි සිතා
331 බොහෝ විරයන් මරමින් බොහෝ අසුන් හෙලමින් දකුණු දෙරබිඳ ගෙණ ක්‍ෂණයෙක්හි ඇතුල්වී.

332 එකල්හි අත්‍යන්තයෙන් බාගිය සිත් ඇති ඒ කුලශෙ
333 බර රජතෙමේ ඇදි සිය වතටත් අනිඝ්ඨරවූයේ නැගෙණ හිරි දෙර හැර දෙරටුවෙන් බැහැර ගොස් තිසි සේතුව
334 කින් සතුරන් අතින් මිදිනි — ඒ සියල්ලෝ එහිදී දෙම ළුන්ගේ බොහෝ හටයන් මරා බොහෝ අශ්වයන්ද බො
335 හෝ වස්තු වර්‍ගයද පැහැරගෙණ පිළි හිස සිසාරන්නෝ ඔබ මොබ පනන්නෝ අත්පොළසන්දෙනෙනා් සිනාසෙනෙනා්
336 විජයොත්සවය පැවැත්වූහ. පසුව ලඞකාපුරතෙමේද ජ ගද්විජය නායකතෙමේද අන්‍යවිරයන් සමග රාජිනා පූර යට ප්‍රාධාන්‍යයෙන් එලඹියෝයි.

337 මෙසේ කළ පින් ඇත්තාවූ තීක්‍ෂණ ප්‍රඥවෙන් යුක්තවූ නිතිහා ශික්‍ෂා ඇත්තාවූ බිහිසුනු තෙදඇති නොලිහිල් වක්‍යම් ඇත්තාවුන්ගේ චිත්තසඞකල්පයෝ සරකල් පෙරඩ මස සඳසෙයින් සමෘධියට පැමිනෙති.

මෙතෙකින් හූදිජනයා ප්‍රසාද සංවෙගජණිස කළ මහවස රාජිනාපුරගහණ නිද්දෙසනම්වූ සැත්තෑ සවෙනි අදියර නිමි

# 77 වෙනි පරිච්ඡෙදය.

---

1 ඒ කුලශෙඛර මිහිපල්තෙමේ භයින් එතැනින් පලාගී යේ තොඩමානනම් තැනැත්තහුගේ පර්වත දුර්ගයෙහි සව්
2 තිය කෙළේයි. වීරතුඞ්ගකාර සේනාවෝද එසේම අන්‍යවූ
3 කකෙකාලයෝද මධුරකකාර සේනාද රාජිනා නුවරට ආවෝ එකල්හි කුලශෙඛර රජහුගේ ඒ සියලු පවත් කියා මධුරා
4 පුරයට යන්ට ලඞ්කාපුර (ප්‍රභුරාජ) යා හට ආරාධනාකළහ. පසුව ලඞ්කාපුරතෙමේද ජගද්විජය නායකතෙමේද ම
5 හත් ශ්‍රියෙන් යුක්තවූවෝ මධුරාපුරයට ගොස් "මේ තෙමේ තොපගේ උපන් ගෘහයද පියරජහුගේ නිවාසයද වේ යි" කියා වීරපඞ්ඩුකුමරහට (පාවා) දී ඔව්හු එහි විසූහ.

6 සිරිවල්ලභනම්වූ රජය නාරායණ නම්වූය පරාක්‍රම පඬුනම්
7 වූය වීරපෙපර රායරය මණ්ණය රායර සාමනාථාය එසේම සෙඹකුඞ් රායරය අන්‍යවූ වීරපෙප රායරනම්වූය කෙරළසීහ
8 මුත්තරය යන මොවුන් වසගයට පමුනුවා ආභරණදිය දී තමා වසගයට ආවාවූ චොළගඞගරනම් තැනැත්තාහට පූර්
9 යෙහි තමාවිසින් අනුභව කරණලද පරිත්තිකඞුඞිරට නා
10 යක බැව් අනුදැන උහු සිය පදවියෙහි තැබූහ——කලවඞ්යනාඩාල්වාර්තෙමේ "වසඟ වනෙනමැ" යි අනෙතාමධුරා
11 වට අවුත් "මා දක්වන්ට භය" යි කියා තමා නොදක්වා
12 හේතෙමේ සියතැනටම ගියේයි——එකල්හි ලඞ්කාපුර තෙමේ උහුගේ රට ගන්ට ගොස් දුරතික්‍රම වියසීඇති ඒ තෙමේ යුද කොට උහු පලවා මහාබල පරාක්‍රම ඇත්තේ ආලග්වානගිරි රටගතැ

13 අන්‍යවූ සූරදේවනම් කලවඞිය නාඩාල්වාර්තෙමේ සරණ ගතවූයේ පසුව (ලඞ්කාපුර දඞනාථ) නාකයන්ගෙන් රට
14 ඉල්විය. ලඞ්කාපුරතෙමේද ඒ රට උහුවිසින් ඉල්වනලදු යේ උහුට දී පසුව කුරුඹ රායරනම් (බලනායක) යාගේ
15 රටට ගොස් මහායසස් ඇත්තේ කුරුඹ රායරයන්ද තමා වසෙහි කොට එසේම කඟය රායරයන්ද තමාවසෙහි ප
16 වත්වා නියමයෙහි වෙසෙමින් පසුව ඒ වීරතෙමේ නිකලඩ රායරයන් වසෙහි පවත්වනට එතැනින් තිරිපසුත්තුරුනම් තැනට ගියේයි.

17 නිකලඞ රායරතෙමේත් සියසෙන් රැස් කරවා අකලඞ්ක
18 නාඩාල්වාරය එසේම කඩඹ රායරය මළයෘ රායරය තිරුවා
රනතරායරය යන මේ සොළී සාමන්තයන්හා ඔවුන්ගේ අ
19 නලපවූ බලසෙන්ද ඔවුන් අයත් බොහෝ අසුන්ද ගෙණ
දුරතික්‍රම සංග්‍රාම කරණට පටන් ගත්තේය.—පසුව යහ
20 එවන් පඳිකයන් සහිතවූ ඒ සතුරුසේනාව තිරුපපූත්
21 තුරුව පටන් පොන්අමරාවතිය තෙක් මේ අතුර මහ මග
තුන්ගවු පමණ තන්හි එක්මස්කලව්ටි කොට ඒ මහබල
22 සෙන් බඳ සිංහලයන් අයත් සේනාතොමෝත් පොන්අමරා
23 වතියට එලඹ එහි කරණලද තෙමහල් පහයකුදු දවා අනි
කුදු බොහෝ ගෙවල්ද සමෘඞ වීකොටුද ගිනිලා පසුව රට
24 වැසසන් හය දුරලනුපිණිස වීරතෙමේ අණබෙර හසුරුවා
රටවැසි ජන සමූහයා තමා වසයට ගෙණ පෙරලා මධුරා
වට ආයේය.

25 එකල්හි දැඩි ආඥ ඇති (පැරකුම්බා) මිහිපල්තෙමේ වීර
පඞ්කුමරහට ඔටුනු පැලඳීම් මගුල් විධානයට හසුන් යැවූ
26 යේය. පසුව රජහු දුරතික්‍රම හසුන් අසා ඒ තෙමේ එකෙ
ණෙහි අභිෂෙකවිධිය කරවන්ට ආරම්භ කෙළේය. මාළව
27 චක්‍රවර්තීය එසේම මාළව රායරය ඵලසූරු නාඩාල්වාරය යන
මේ ලඞ්කාණි (ගොත්‍ර) ඇත්තවූන් ලඞ්කාණිධුරාව කරණට
28 මෙහෙයා පසුව (අනුන්විසින්) ඇක්ම නොහැකි ආඥ ඇත්
තේ රජයෙහි අණබෙර හසුරුවා සියසෙන්• විසින් පෙරටු
29 කරණලද්දවූ නන් අබරණින් හෙබියාවූ පඞ්රජයෙහි සා
මන්තයන් සියල්ලන්ම රැස් කරවා පූර්වරාජමන්දිරයෙන් උ
30 තුරු දිග්භාගයෙහි පූර්වයෙහි ලබනලද ජයභෙරියෙන් හෙ
බියාවූ දෙවොලෙහිදී කුමරහට විධානවූ පරිද්දෙන් ඒ අභි
31 ෂෙක (මගුල්) කරවා මහා යසස් ඇත්තේ උත්‍සලවා නුවර
පැදකුණු කරවිය.

32 ඉක්බිති තොඩමානයන්ගේ ගිරිදුර්ගයට පලවනලද කුල
ශෙඛර මිහිපල්තෙමේ තොඩමානයන් තමා වසෙහි කොට
33 ගෙණ උහුගේ සෙනගත් සෑතිය සෙනගත් ගෙණ බිහි
සුනු විකුම්ඇති අනුජීවි සම්ඩනම් තැනැත්තහු ගෙණ ඒ ප
34 ර්වතදුර්ගයෙන් බැහැර ආයේ පසුව මගලනම්වූ බලකොටු
35 වට වැද මණ්ණය රායරය සෙඞ්කුඞ් රායරය යන සිංහල
යන් වසඟයට ගියවුන්හා මහයුද කොට ඒ කොටුව පැහැ
36 ර ගෙණ හේතෙමේ එහිම හිනි.—ඉක්බිති ලඞ්කාපුර
37 තෙමේ වූපරිද්දෙන් එපවත් දැන "වෛරී රජහු එතනිනු
නුදු පලවා පර්වතදුර්ගයෙන් ආරණ්‍යදුර්ගයෙන් යුක්තවූ රටද

38 යුද්ධකොට එන්ට වටනේය” යි සිතා මධුරාපුරයෙන් පිටත්ව
මඟලකොට්ටුව සමීපයෙහි බලකොට්ටුවක් කොටගෙණ හිඳ
39 ගත. වෙල්ලිනාබ (නාවු) බලකොට්ටුවෙහි මහසේනාහා සිටි
යාවූ තොණ්ඩමානයන් බිරින්දගේ සහොදරයන් තුන්දෙනා
40 සමගද කලලකකනම් වේළාරය මුනයධ රායරය කාලිංග රා
41 යරය යන මොවුන් සමගත් මහයුද කොට ඒ බල කොට්ටුව
පැහැර බොහෝ දෙමළුන් මරා පසුව සිවලිපුත්තූරුව පැ
හැර මහායසස් ඇත්තේ ගිනි.
42 එකල කුලශෙඛරනම් සතුරු රජතෙමේ තිුණවෙලි යෙ
43 හි හුන් බලසේනාද කැටිකොට එසේම මිසිලන් දෙදෙ
නාටද හසුන් යවා තෙන්කොඟු වඩකොඟු දෙරට
44 බලසෙන් ගෙණ මහසෙන් ඇත්තේ එකල්හි ඒ සියලු සේ
නාවට අණකොට සාන්තනේරියයි ප්‍රසිද්ධවූ බලකොට්ටුවෙහි
45 සිටින්ට නියොග කෙළේයි.———එකල්හි ලඞ්කාපුරතෙමේද
ජගද්විජයනායකතෙමේද ඒ බලකොට්ටුව ගන්ට එකෙණෙ
හි මගට පිළිපන්හ.
46 එකල්හි උපාය කුශලවූ කුලශෙඛරතෙමේ සතුරන්ගේ මඟ
47 ඇවිරීම්පිණිස තෙමේ මහවැවක් සින්දවී. එකල්හි වීරවූ ලඞ්
කාපුරතෙමේ එපවත් දැන සතුරන්හා මහයුද කරණට
48 යන්නහුවිසින් අතරමග සුන්වැව දැනීම් අයුක්තයයි මෙසේ
සිතා මහබලඇත්තේ එකෙණෙහි ඒ වැව බඳවා මහාබල ප
49 රාක්‍රමඇත්තේ ඒ මහාදුර්ගයට ගොස් දරුණු යුද කොට එකෙ
ණෙහි එය පැහැර එහිදී කලලකකනම් වේළාරයාහා අනෘවූ
50 බොහෝ දෙමළුන් මරා බොහෝ දෙමළුන්ද අසුන්ද ගෙණ
51 එයින් තිරිමලකක නම්වූය එසේම කත්තලනම යන තොණ්ඩ
මානයාගේ ගම්දෙකට කෙණෙහි වැද තිරිමලකකනම් ගම
52 නාමශෙෂ කොට ගිනිලවා එයින් පිටත්ව චොළ කුලාන්තක
නම් ගමට ගොස් මහායසස් ඇත්තේ මදකලක් එහිම විසීය.
53 ඉක්බිති කුලශෙඛර රජතෙමේ ස්වකීය මිසිලන් දෙදෙ
නාද ඒ දෙදෙනාගේ බලසෙන්ද එසේම බොහෝ අසුන්ද
54 අකලඞ්ක නාඩාල්වාරය එසේම පලලව රායරය මළයප්ප රා
55 යරය එසේම කඩඹ රායරය නිචාරත්ත රායරය මහාබල පරා
ක්‍රම ඇති මෙකී සොළීසාමන්තයන්ද ඔවුන්ගේ අනලප
56 සේනාවහා කලවඩිනාඩාල්වාරය උහු අයත් බලසේනාවය
සිය සේනාවවිසින් පෙරටු කරණලද පූඩිකොණ්ඩනාඩාල්වා
57 රය (යනමෙතෙක් බලසෙන්) ගෙණ තෙමේම පලඞ්කො
ට්ට නම් තැනට ආයේ, පඬුනාඩුකොට්ටාන නම්තැනද එසේ
58 ම ඌරියේරිනම් තැනද ඒ මහසෙන් සිටිනට මහාබලඇති

භෝතෙමේ ඒ වාරයෙහි සතුරන් දිනනුපිණිස කරණලද නිශ්චය ඇත්තේ නියොග කෙළේය.

59 ඉක්බිති ලඞ්කාපුරනම් දණ්ඩනාථතෙමේද ජගද්විජයනායකතෙමේද යුද පිණිස චොළකුලාන්තකනම් ගමින් පිට
60 ත්ව ගෙණ මහබල කොට්ටුදෙක්හි සිටි සතුරුසෙන් යුඬභූමියෙහි යුඬාරම්භයට නොසතුටු කොට ඌරියේරිනම් ගම්හි
61 වැ මනතෙහි මහාබලකොටුවක් කරවා එහි එකල රාත්‍රිභාග
62 යෙහි විසූහ———එකල්හි බලකොටු දෙක්හි සිටුවනලද්දාවූ සතුරුසේනාතොමෝ බිඳුනා, යම්තැනක කුලශෙඛරරජ තෙමේ විනම් එහි ගියා.

63 එකල්හි ලඞ්කාපුරතෙමේද ජගද්විජයනායකතෙමේද තැන් නොතැන් (දැන්මෙහි) විචක්ෂණද්‍රවෝ පලඞ්කොට්
64 ට නම් තැනට ගොස් බිහිසුනු යුද කොට නොපසු බස්නා වියඹ්ඇත්තෝ වෛරී රජහුගේ බොහෝ යොධයන් මරවා
65 බොහෝ අසුන් ගෙණ කුලශෙඛර මිහිපල්හු පලවා එකෙණෙහි පලඞ්කොට්ටය ගෙණ ඉනුදු නික්ම තුවර (රට) අධි
66 පති වේළාරනම් එකක්හුගේ වෙතට ගොස් උහු විසින්ම
67 දෙනලද්දාවූ අසුන්ද ඇතුන්ද ගෙණ "කුලශෙඛර මිහිපල්
68 තෙමේ මධුරාවට ආයේය" යි අසා උහු එතැනින්නුදු නෙර පනුපිණිස අධරව්වෙර (නම්තැනට) අවුත් එහි නිකලධරා
69 යරයා වසෙහි කොට උහුට බොහෝ ප්‍රසාද දෙවූහ පසුව එතැනින් නික්මුනුකල කුලශෙඛර මිහිපල්තෙමේ භයට පැමිනියේ එයින් සොළීරටට වන.

70 ඉන්පසු ලඞ්කාපුරතෙමේ ජගද්විජයනායකනම් ඇමතියා පත්තනල්ලූරුනම් තැන්හි සිටින්ට නියොග කොට් තෙමේ
71 බලසේනාවිසින් පෙරටුකරණ ලද්දේ තිරික්කානපෙර
72 නම් තැනට ගියේය———කුලශෙඛර රජතෙමේද නානාප්‍රකාර යාචනකර්මයෙන් සොළීරජු පහදවා ඒ රජහුගේ නියොගයෙන් පලලව රායරනම්වූවහුගේ සේනාවද බො
73 හෝ අසුන්ද ඉනඅපදනම් තැනැත්තහුද වැලි අනෑවූ තොඩ්මානනම්වූවහුද රාජරාජකළප්පනම් වූවහුද පනා
74 රායරනම් වූවහුද කඟකොඩකළප්පනම් රායරයාද එසේම අ
75 නෑවූ නකාරානිබ්ලුපාදි රායරයාද එසේම අනෑවූ නිච්චවිනොදමාන රායරයාද විරවූ නරසිංහපද්මරයාද සේතිරප
76 ද්ම රායරයාද රාජිඅබ්‍රහ්මහා රාජයාද මාධව රායරයාද [නිකලධ රායරයාද] චොළකොනාරයාද ජඅබ්‍රහ්මමහා රායර
77 යාද චොළතිරික්ක රායරයාද උච්චංකුවඩ (රට) මෙකී බලනායකයන් ගෙණ තියරාය කපජිව්වෙතුලය (යනමොවුන්ද)

78 හැරගෙණ මාධව රායරයාද නැවත අන්‍යවූ කඩුවෙට්ටිය
එසේම කොගම්ගල නාඩාල්වාරය වැලිදු අන්‍යවූ අකලඞ්ක
79 නාඩාල්වාරය එසේම කඩඹ රායරය නීළම්ගල නාඩාල්ව
80 රය එසේම අන්‍යවූ විශාලමුත්තු රායරය ඔවුන් බොහෝ
අසුන්ද (එක්කොට) තොණ්ඩිය පාසය යන දෙරටට එවිය.
81 ලඞ්කාපුරතෙමේ ඒ විධාන අසා ඔවුන් නාමශෙෂ කරන්ට
82 සිතා මධුරායෙහි ජගද්විජයනායක ඇමතියා සිටුවා වීරවූ
යේ තිරික්කානප්පෙරුනම් තැනින් පිටත්ව පසුව තෙමේ
83 කිළෙනිලයනම් මධුරාන්තකපුරයට එළඹියේය— එකල්
හි සොළී මහාසේනාතොමෝ මහයුද පටන්ගත.
84 සතරගව්වූපමණවූ ඒ මාගීය මිනියෙන් ආකුල කොට මු
85 හුද හුනුවාවූද බොහෝ භටයන් මරවා සයුර දිය සතුරන්
ලෙහෙයෙන් ඉතා රතුකොට බොහෝ අසුන්ද එසේම බො
86 හෝ දෙමළුන්ද ගෙණ රාජිඤබ්‍රහ්මහා රායරය නාඤ්පදම
රය නරසීහ පද්මරය චොළකොනාරය යන (බලනායක
87 යන්) ජීවග්‍රාහයෙන් අල්වාගෙණ. නැවතත් මහබල ඇති ඒ
තෙමේ වඩමණමේක්කුඩිය මනමේක්කුඩිය එසේම මචක්කු
88 ඩිය (යන තැන්) භූමිශෙෂ කොට ගිනිලවා සොළිදෙශයෙන්
89 සත්ගවුපමණ තැන්ද ගිනිලවා මෙසේ ඒ සොළින් සාධා
ඉනුදු පෙරලා ආයේ නිකලධ රායරයා අයත්වූ වෙලඞ්කුඩි
නම්ගමට වැද එනුපිණිස උහුට හසුන් යැවී.
90 එකල්හි ඒ තෙමේ කුලශෙඛර රජ්ජුහු වසෙහි වී. කුල
91 ශෙඛරරජය ශිලාමෙඝරය අකලඞ්ක නාඩාල්වාරය එසේම
92 කඩඹ රායරය මලයප්පරායරය විශාලමුත්තුරායරය කලවඩි
නාඩාල්වාරය ත්‍රිණවෙලියෙහි බල (සේනාය) පූඞ්කොඩනා
93 ඩාල්වාරය (යන මෙකී සෙන්) ගෙණ මහබලඇත්තේ මහා
යුද කරණුපිණිස පොන්අමරාවතියට ආයේය.
94 මහාබලඇති ලඞ්කාපුරතෙමේ එපවත් අසා සතුරුරජහු
95 දිනන්ට වේලඞ්කුඩියෙන් නික්ම පස් දිගෙකින් අවුත් පවත්
වනලද මහයුද ඇති සතුරුසෙන් එකෙණෙහි බිද බිහි
96 සුනු විකුම්ඇත්තේ දහස් ගණන් දෙමළුන් මරවා බොහෝ
97 අසුන් ගෙණ කුලශෙඛර රජහු පැලවී— නිකලධ රායර
තෙමේ පසුව භයවූයේ "මාසතු වසන්‍වගීයද මාගේ බො
98 හෝවූ අසුන්ද ගෙණ මාගේ මේ දොෂයතෙම ඔබ විසින්
ක්ෂමා කටයුතුය" යි කියා හසුන් එවීය.
99 ඉක්බිති ලඞ්කාපුරතෙමේ ඒ අසා පිළිහසුන් (යවන්නේ) "අ
100 වශ්‍යයෙන් තොපවිසින් මා අනුසසුන් පිළිපැද්ද යුතුය. තොප
ගේ ධනයෙන්හෝ අසුන් ගෙන්හෝ මට වැඩෙක් නැත.

හයනුවූයේ තෙමේම අවුත් දර්ශනය කෙරේව" යි හසුන්
101 යැවිය. ඒ අසා ඒ තෙමේ ලඞ්කාපුර (නම්ප්‍රභූරාජයා) දක්
නට එකල්හි එළඹියේය. උහු දැක ප්‍රසාදහා රටත් උහුට
102 දී දනලද ගෙවල් කරවන්ට බොහෝ වස්තුවද දී එයින්
නික්ම මහායසස්ඇති හේතෙමේ නියමයට අවුදින් ඒ සි
103 යලු රටම නිෂ්කණ්ටක කොට පරාක්‍රම මහීපාලයාගේ නා
මාඞ්කිතකර්ෂාපණයන් ඒ රට සැමතන්හි ව්‍යවහාරයන්හි
104 නියොගකොට විරපඩි කුමරහට ඒ රට ප්‍රතිපාදනය කොට
සොළීදෙශයෙන්ද පඬිරටින්ද ගන්නාලද්දාවූ බොහෝ
අසුන්හා මිනිසුන්ද ඇතුන්ද වහා සිංහලවිපයට එවිය.

105 එකල්හි රාජෙන්ද්‍රකෙශරසිංහවූ පරාක්‍රමබාහු රජතෙමේ
106 පඬිරට ජයප්‍රකාශකරනනාමවූ පඬුවිජයනම් සියලු කාල
යෙහි සමෘඞ්ඇති උතුම් ගමක් කොට සැමකල්හි දනයෙහි
ඇළුනේ බමුනන්ට දන්කොට දුන්නේයි.

107 මෙසේ විචිත්‍රානන්ත වික්‍රාන්තිසාර ඇති පරාක්‍රමබාහුනම්වූ
ධරණීපාල කුලාග්‍රවූ යමෙක්තෙමේ පරාභිභවනය කෙරේ
නම් යුක්තායුක්ත විවෙක චින්තනයෙන් උපගතඋත්කෘෂ්ට
චින්තාචාරඇති අවිනීයවූ හේතෙමේ බොහෝ කාලයක්
සමුද්‍රාන්තාකොට ඇති මේ පෘථිවිය උවහනය කෙරේවා.

මෙතෙකින් සුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවංස
පඬුරටඩ්විජයනම්වූ සත්සත්තෑවෙනි අදියර නිමි.

---

# 78 වෙනි පරිච්ඡේදය.

---

1 මෙසේ සම්ප්‍රාප්තාභිෂෙක ඇති ක්‍රමදක්ෂවූ ඒ පරාක්‍රම බා
හු ලබ්කෙශ්වරතෙමේ ලඞ්කාවීපතලය නිරවුල්කොට රාජ්‍ය
2 සාධනයෙහි ප්‍රධාන ඵලභාවයෙන් ප්‍රාප්තාකරණ ලද්දාවූ
ගරුකොට සලකනලද බුඞශාසනාභිවෘඞිය කරණු කැමැ
3 තොත් "සඟසතුගම්හි සඞ්ඝයාගේ පුත්‍රදාරාදී පොෂණයම
ස්වභාවය එයින් අන්‍යවූ ශිලයක් නැතොත්මය" යනුද සම
4. ගිවූ කර්මාදිය තබා ඔවුනොවුන් දර්ශනයත් නොරුස්නා

සුසිල්වත් කිසියම් භික්ෂූන්ද බලා බුද්ධශාසනාභිවෘද්ධියපිණිස
5 පළමුකොට ශාසනශුද්ධියද තුන්නිකාවැසි භික්ෂූන්ගේ සා
මාග්‍රියද කරවනු කැමැත්තේ ධර්මාසොක මහරජහු මො
6 ග්ගලිපුත්තතිස්සස්ථවිරයන් (ප්‍රධානකොට) සෙයින් ත්‍රිපිටක
7 ධර විශාරදවූ විශෙෂයෙන් විනය දන්නාවූ ස්ථවිරවංශයට
අසහායප්‍රදීපායමානවූ සමගිය බොහෝ කල් පතන්නාවූ
8 මහා කාශ්‍යපනම් මහාස්ථවිරයන් ප්‍රධානකොට අනුරාධපුර
වාසීවූ ශිෂ්‍යයන් සහිත කෘණපාලනම් ස්ථවිරයන්ද අන්රට
9 වැසි භික්ෂූන්ද මෞද්ගල්‍යායන ස්ථවිරයන් සහිතවූ නා
ගෙන්ද්‍රපල්ලියෙහි ස්ථවිරයන්ද යුවරජරටවැසි අන්‍යවූ සියලු
10 භික්ෂූන්ද ගලතුරුමූලවිහාරවාසීවූ නන්දනම් ස්ථවිරොත්තම
යන් ප්‍රමුඛකොට රුහුණුරට තුන්නිකාවැසි භික්ෂූන්ද පො
ළොන්නරුවට කැඳවූයේය.

11 ඉක්බිත්තෙන් පෘථිවීශ්වරතෙමේ ඔවුනොවුන්ගේ සමගිය
පිණිස මහාවිහාරවාසීභික්ෂූන්ට ආයාචනා කෙළේය. අලජ්ජී
12 න්ගේ උත්සන්නභාවයෙන්ද බොහෝ කල් විවිධව භින්නවූ
බැවින්ද එකල්හි බොහෝවූ භික්ෂූහු සාමාග්‍රිය නොඉවසූහ.
13 ඇතම් කෙනෙක් පරදෙශයට යන්ටද ඇතම්කෙනෙක් සි
වුරු හරණටද ආරම්භකළහ. ඇතම්කෙනෙක් විනිශ්චය
මණ්ඩලයෙහි හිඳිනටද නොකැමතිවූහ.

14 ඉක්බිත්තෙන් දුකසේ සමනය කටයුතුවූ මහාධිකරණ
පටන් ගත්හ. එහෙයින් සමගිය මහමෙර එසවීම සෙයින්
15 වැටහින (ජනයෙන්) මමත්වයක් නැත්තාවූ ස්ථිරවූ ආරම්භ
ඇති ධාර්මිකවූ ඒ පෘථිවීශ්වරතෙම ඒ භික්ෂූන් අස්වසා දුක
16 සේ පිළිගැන්විය. ඉක්බිත්තෙන් උපනුපන් අධිකරණයන්
සමථයට පමුනුවනු පිණිස මහාකාශ්‍යපස්ථවිර ප්‍රධානවූ
භික්ෂූන්ලවා විනිශ්චය කරවී.

17 විනිශ්චය පිළිගැන්මෙහි පිටකත්‍රයධාරීවූ ආචාර්‍ය්‍යවරයන්
සමග තමන් සම්පාස්ථව පිළියම්කළහැක්කන් ධර්මයවූ
18 පරිද්දෙන් ශුද්ධියෙහි පිහිටුවා මහාවිහාරවාසීවූ සියලුභික්ෂූන්
19 සමගි කෙළේය. හේතෙමේ දුස්සීලයන් “ලාභාපෙක්ෂා
වෙන් ශාසනය නොනසත්ව” යි මහතනතුරු දී සිවුරු
හැරවූයේය.

20 මෙසේ මහාවිහාරයම මහොත්සාහයෙන් ශුද්ධකොට (ව
ට්ටගාමණී) අභයමහරජානන්ගේ කාලයෙහි පටන් වර්ගභා
21 වයට ගියාවූ අභයගිරි විහාරවාසී භික්ෂූන්ද මහසෙන් නර
නිඳු කල්පටන් භින්නවූ වෛතුල්‍යපිටකාදී අබුද්ධවචනයම
22 බුද්ධවචනයයි ප්‍රකාශකරන්නාවූ ප්‍රතිපත්තියෙන් පරාඞ්මුඛවූ

ජේතවනවිහාරානුගත භික්ෂූන්ද නිරවශෙෂ ගුණයුක්තවූ
23 මහාවිහාරවාසී භික්ෂූන් සමග රත්නයත් හා කඳුගල් සෙයින්
24 සමගිකරන්ට ආරම්භකොළේය, ශීලාදී සාරගුණාන්‍යවූ ඕව්භූ
මහාසඞ්ඝයාගේද නරේන්ද්‍රාත්තමයාගේද තේජසකරණ
25 කොටගෙණ බුද්ධශාසනයෙහි ඇල්මට නොපැමිනියෝය.
එසේත් ධාර්මිකවූ රජතෙම ක්‍රමඥනාත් ලවා විචාරණය
කරවන්නේ ප්‍රකෘතිභාවයෙන් යුක්තවූ එකම උපසපන් කෙ
26 නෙකුත් නොලද්දේය. එකල්හි බොහෝවූ භික්ෂූන්ට සාම
ණෙරභාවය කරවූයේය. දුස්සීලයන් සිවුරු හරවා මහතන
27 තුරු දුන්නේය. මෙසේ ඒ මහරජතෙම මහොත්සාහයෙන්
බොහෝ කලකින් ශුද්ධියහා සාමාග්‍රිය සම්පාදනය කොට
28 සඞ්ඝයා බුද්ධකාලයෙහිමෙන් පැවැත්වූයේය. අවුරුද්දක්
පාසා මහසම්ඝයා ගඞ්ගාතීරසමීපයට පමුනුවා උයනෙහි
වස්වා අමාත්‍යයන් සහිතවූයේ උපස්ථානයොරෙමින් ගඟ
29 මැද අතිශයින් නිශ්චලකොට නැව් තඹ්බවා එහි මනොහර
30 සුවිභක්තමණ්ඩපයක් කරවා මාහැඟි සිවුරුද පිරිකරද
31 දෙවා මහා ප්‍රාඥවූ හෙතෙම උපසම්පදා කර්ම්ය කරවූයේය.
මෙසේ බොහෝවූ නොයෙක් සියගණන් භික්ෂූන්ගේ
32 සැප විහරණයට යොග්‍යවූ මහාවිහාරයන් කරවනු කැමැ
ත්තාවූ ඒ මහරජතෙම ජේතවනවිහාරසම්පත්තිය ප්‍රත්‍යක්ෂ
33 කොට දක්වන්නාසේ ජේතවනනම් මහාවිහාරයක් කරවූ
යේය. එහි ආශ්‍රමස්ථානවාසීවූ තර සිල්ඇති ස්ථවිරයන්ට
34 මාහැඟිවූ තුන්මහල් පහ අටක් කරවූයේය. ශාරිපුත්‍රනම්
ස්ථිරශීලයෙන් යුක්තවූ ස්ථවිරයන්වහන්සේටද සඳලු සහිත
උඩුමහල් ඇති ගබ්ගෙවලින් යුක්තවූ බබලන්නාවූ මහාප්‍රා
සාදයක් කරවූයේය.

35 ප්‍රතිමාරූපයන්ගෙන් සංයුක්තවූ පර්වතයන් පරිද්දෙන්
අප්‍රති සම්මතවූ සැත්තෑවක් පමණ තෙමහල් ප්‍රතිමා මන්දිර
36 යන්ද කරවූයේය; පන්සැත්තෑවක් පිරිවෙන් පිණිස රම්‍ය
ලක්ෂණ ඇති දෙමහල් දිඝීප්‍රාසාදයන් එපමණම කරවූ
37 යේය. සුළුපහ එක්සිය සැත්තෑඅටක්ද සූනිසක් දොරකො
ටුද පූජනකාලය දෙකක්ද කුළුගෙවල්හා ගුහාවන්ද මල්
38 කම් ලියකමින් යුත් දෙව් බඹ ආදීන් පිළිරූඇති ශාලා
වන්හා බොහෝවූ ගබඩාගෙවල්ද උළුකම්හා සුණුවමින්
39 නිපදවනලද්දාවූ නෙත්‍රරසායනය දක්වා ත්‍රිවඞ්ක ප්‍රතිමා
ස්වාමීන්වහන්සේ සඳහා ත්‍රිවඞ්ක ප්‍රතිමාගෘහයක්ද සිහ
40 තිඳුරු හස් ආදී රූපෙළින් බබලන්නාවූ නානාදැල්කවුළු
41 වලින්හා බොහෝ පිළිකඩින්ද සිත්කළුවූ වැම් බිතුආදී

42 යෙන් සැදුම්ලත් මනාවූ සර්වශෛලමය ව්‍යාඝාත දන්තධාතු
43 මන්දිරයක්ද ධර්මශාලාත්‍රිණක්හා එක් චෛත්‍යයක්ද දිගුසක්
44 මන්මළු අටක්ද, දිගුපුළුල්වූ එක් බොජුන් හලක්ද, උළු
සෙවෙනිකරණලද අසූපසක් ගිනිහල් ගෙවල්ද, වැසිකිළි
45 එක් සිය සැත්තෑඅටක්ද කරවූයේය. භික්ෂූන්ගේ අභ්‍යන්තර
මලය ශාසන සූචියෙන් ශුද්ධකොට පිටත් මලද ශුද්ධකරණු
46 පිණිස සෙයින් ග්‍රීෂ්ම සමයෙහි නහනුපිණිස වට නානකො
ටුවය ගුහානානකොටුවය පියුම්නම් නානකොටුවය භද්‍ර
47 නම් නානකොටුව්ය යනාදිවූ වැම් පියගැට පිළිකඩ ආදියෙ
48 න් සැදුම්ලත් ශෛලමයවූ නානකොටු අටක් කරවූයේය
මහරජතෙමේ එහි බොහෝවූ ප්‍රාකාරද බැඳවූයේය, මෙ
සේ ජේතවන විහාරයෙහි සියලුම ගෙවල් පන්සිය විසෑක්
49 වූහ*——නොයෙක් පිරිකරදී එහි සඞ්ඝයා වැස්වූයේය.
ක්ෂත්‍රියතෙමේ ආදෘහනාපිරිවෙණ එහි කරවූයේය. එහි
50 ස්ථවිරයන් වහන්සේපිණිස ඉතාදුරුනොවීම් ආදි සියලු අව
ගයෙන් සමන්විතවූ මනායසී සම්මත ඉතා සිත්කළු සඳලුතල
51 ඇති නානාවිධ උතුම් ගැබ්ගෙවල් ඇති කුළුගෙවලින් සෙ
බියාවූ තෙමහල් පහයක් (කරවූයේය) දිගු පහ සතළිසක්ද
52 එපමණ වැසිකිළිද සුළුපහ අටක්ද දොරකොටු සයක්ද ගිනි
හල්ගෙවල් සූතියක්ද අතිශයින් මහත්වූ ප්‍රාසාද දෙකක්ද
53 සුභද්‍රනම් චෛත්‍යයක්ද රූපවතිනම් චෛත්‍යයක්ද (කරවූ
යේය) මාලා කම් ලතාකර්මහා දෙව බ්‍රහ්මයන්ගේ මනොහර
54 රූපඇත්තාවූ කූටාගාර ගුහාගර්භශාලා මන්දිරයෙන් උප
ශොභිතවූ ශෛලප්‍රතිමා මන්දිරයෙක්හි ලඞ්කාතිලකය යන
55 අන්වර්ථ නාමයකුත් විද මනහර පස්මහල් ඒ පිළිම ගෙ
යද (කරවීය). ඒ පිළිමගෙහි ජීවමානසර්වඥයන්වහන්සේ
56 ගේ ආයාමයෙන් යුක්තවූ ලඞ්කාතිලකනම්වූ නෙත්‍රරසාය
නවූ සිටිපිළිමයක්ද කරවූයේය. නොයෙක් කුළුගෙවලින්
57 ද ගබ්හල් ගෙවලින්ද එසේම මැදිරි ගෙවලින්ද යුක්ත
වූ බද්ධසීමා ප්‍රාසාදනම්වූ දෙළොස්මහල් පොහෝ ගෙයක්
58 (කරවූයේය) එහි සීමාබන්ධනය කරවනුපිණිස අමාත්‍යයන්
සහිතව අන්තඃපුර ජනයා සහිතවූ මහාසෙනා වාහන
59 ඇති ඒ රජතෙමේ ශක්‍රදෙවෙන්ද්‍ර විලාසයෙන් ඒ වෙහෙරට
පැමිණ මහාකාශ්‍යපස්ථවිරප්‍රමුඛවූ මහාසඞ්ඝයාවිසින් මෙහෙ

* මෙහි සියලු පන්සියවිස්සට වැඩිව පෙණේ, මෙයින් සරසංඛ්‍යාවට නොපෑ මිනිදෙයහැර සැලකිය යුතුයි.

60 යන ලද්දේ මඞ්ගල ස්තුතිගීතිකාවෙන්හා තූර්යනාදයෙන්ද
සාධුකාරනිනාදයෙන්ද සිවුදිගුන් පුරවමින් ස්වර්ණාදීන් කර
61 ණලද කලස්හා සුමුගුද බොහෝවූ ධවජයන්ද ඡත්‍රයන්ද
දරන්නාවූ ජනයන්විසින් පිරිවරණලද්දේ මහත්වූ සැණ
62 කෙළිපවත්නාකල්හි මගුලැතුන් යොදනලද්දාවූ රන්නගුල
63 අල්වාගෙණ භූමිපාලතෙමේ සාමින් වැඩියේය. ඒ සඞ්ඝ
තෙමේ එහි පෙරබඳනාලද සීමාවන් සම්බන්ධිවූ ශඞ්කාදුරු
64 කරණුපිණිස ප්‍රථමකොට නොයෙක් තැන සිටියේ සීමා
සමූහණය කොට නරේන්ද්‍රයන්ගේ සිව්ට අනුසාරයෙන් හාත්
65 පස නිමිතින් කීර්තනය කොට සකල සංඥප්තියෙන් යු
ක්තවූ කර්ම්මවාක්‍යයෙන් ඛණ්ඩසීමාතුණක්හා එක් මහාසීමා
වක් මනාකොට බන්ධනය කෙළේය.

66 පස්රියන් යටියෙන් ලක්තිලකගෙය පටන් සූසාළිසය,
67 එකුන්පණසය, අටතිසය, සතිසය, පන්තිසය, සත්පණසය,
සතළිස්පසය, සැටසය යටයෙක යන දුරඇති තන්හි පිළි
68 වෙළින් පෙරදිගආදි අටදිගුන්හි නිමිති ගල්පිහිටියහ. ද
කුණු දිග්භාගයෙහි පිහිටි නිමිත්තපාෂාණයතෙම ගොපළු
69 පව්වෙන්ද අටපණස් යටයකදුරඇත්තේය, උතුරුදිග යම්
නිමිතිගලක් පිහිටියාද එය විද්‍යාධර ගුහායෙන් පස්පණස්
70 යටියෙක දුරය ඒ පාෂාණයෝ මහා සීමාසම්බන්ධ නිමිත්තා
භාවයට පැමිනියහ. බඩසීමා ප්‍රාසාදයෙහි පසළොස්යටස්
71 හා තෙළෙස්යටක් තන්හි දිගින්හා පුළුලින්ද බඩසීමා
තොමෝ වීය. ඛණ්ඩසීමානම්වූ මාළකයෙහි දිගින් පස
72 ළොස් යටියෙක්හිද පුළුලින් යෂ්ටිෂට්කයක් තන්හිද සීමා
තොමෝ බඳනාලද්දිය—එසේම ස්ථවිරයන්වහන්සේගේ
73 ප්‍රාසාදයෙහි බඩසීමාතොමෝ දිගින් අටවිසිරියනක්ද පු
ළුලින් විසිරියනක්ද (බඳනාලදී) ඒ විහාරය පිරිකරසමග
74 භික්ෂූන්ට දුන්නේය—එසේම නරේශ්වරතෙම පශ්චිමාරා
මය කරවූයේය. එහි දෙවිස්සක්පමණ පිරිවෙන්හි එපමණ
75 දෙමහල් දීඝශාලාවෝද ගිනිහල් විස්සක්ද දෙමහල් සුළු
76 පහ එක් විස්සක්ද එසේම වැසිකිළි පන්තිසක්ද සක්මන්මළු
දෙකක්ද එක් ධර්ම්මශාලාවක්ද දොරකොටු දශයක්ද වූහ.
77 පරිෂ්කාරසහිතවූ ඒ විහාරයද භික්ෂූන්ට දුන්නේය. එසේම
නරේශ්වරතෙමේ මහාචෛත්‍යයට ආසන්නතන්හි පර්වතය
බිඳුවා එහි උත්තරාරාමය කරවූයේය.

78 සියලු කර්ම්යන් දක්වා විද්‍යාධරගුහාවද වැඩහුන් පිළිම
ලෙනක්ද හොත්පිළිමගුහායෙක්දැයි මෙසේ පිළිම ලෙන්
79 තුණක් දක්ෂවූ ශිල්පීන්ලවා කරවූයේය. පබ්බජය ගෙණ

ඒ රටින් ගෙනෙණලද දෙමළුන් ලවාත් කරවූ බැවින්
80 දෙමළ සෑයයි නම්ලත් එක්දගැබ් තුන්සියරියන් විශාලවූ
81 සියලු ථූපයන්ට මහත්වූ දෙවෙනි කෛලාසයක් සමානවූ
82 මහසෑයක් රහතුන්ගේ සෑඩියක්ද දෙවඹියක්ද නැතිව
මහත්වූ රජඹියෙන්ම කරවූයේය.

එසේම රාජවෙසිභුජගනම්වූ ශාඛානගරයෙහි යතීන්ගේ
83 සිත් පිනවන්නාවූ ඉසිපතනනම් විහාරයක් කරවූයේය. ඒ
84 විහාරයෙහි එක් දාගැබක්ද තුන්මහල් පිළිමගෙයක්ද (එහි)
85 සිතියම්න් බැබලි මාහැගි පිළිම තුණක්ද ප්‍රසාද එලවන්
නාවූ කර්මාන්තයෙන් යුක්තවූ දෙමහල් පහයක්ද, දීඝපහ
86 දෙකක්ද, දොරකොටු සතරක්ද, සුළුපහ අටක්ද, ධර්මශාලා
වක්හා චඞ්ක්‍රමණමාලකයක්ද, එසේම ගිනිහල් අටක්ද,
වැසිකිළි සයක්ද, රම්‍යවූ සර්වශෛලමයවූ එක් නානකොටු
වක්ද, එකම සීමාපව්රුවලලක්ද, සඟසතු උයනක්ද වී.

87 එසේම සිංහපුර නම්වූ ශාඛානගරයෙහි සිංහවික්‍රම ඇති
88 පෘථිවීශ්වරතෙම කුසිනාරානම් විහාරයක් කරවූයේය. එහිද
දාගැබක්ද, තුන්මහල් ප්‍රතිමා මන්දිරතුණක්ද, දීඝප්‍රාසාද ස
89 යක්ද, ධර්මශාලාවක්හා සක්මන්මළුවක්ද, සුළුපහ සොළ
සක්ද, දොරකොටු තුණක්ද, වැසිකිළි එකොළසක්ද, ගිනි
හල් සයක්ද වූහ.

90 පරාක්‍රමබාහුනරේන්ද්‍රතෙම විජිතනම් ශාඛාපුරයෙහි වෙළු
91 වනනම් වෙහෙරක්ද කරවූයේය. එහි මනොඥවූ පිළිම
හා සිතියම්න් බැබලි තුන්මහල් පිළිම ගෙවල් තුණක්ද,
92 දාගැබක්ද, සක්මන්මළුවක්ද, දෙමහල් පහයක්ද, දොරකො
ටු සතරක්ද, දීඝපහ සතරක්ද, සුළුපහ අටක්ද, එක් බොජුන්
93 හලක්ද එසේම එක් ධර්මශාලාවක්ද, ගිනිහල් සතක්ද,
94 වැසිකිළි දොළසක්ද, වූය. ඒ මනුජේන්ද්‍රතෙම ගව්වක් ගව්
වක් තන්හි මනොඥප්‍රතිමා මන්දිරයන්හා දොරකොටු පව්
95 රු අම්බලින් යුක්තවූ ගාවුතවිහාරයන්ද කරවූයේය. විවේ
ක කාමිවූ සියලු ධූතාඞ්ගධර භික්ෂූන්ගේ සැපවිහරණය පිණි
96 ස කපිලනම් විහාරයක් කරවූයේය. එහි මහාර්ඝවූ දෙම
97 හල් පහයෙක්ද, දීඝචඞ්ක්‍රමණයක්ද, දීඝප්‍රාසාද සතරක් හා
දෙමහල් පහ සතරක්ද වේ. නානාප්‍රකාරවිචිත්‍රකර්මාන්ත
98 යෙන් යුක්තවූ කුළුගෙවල් ආදියෙන් හෙබියාවූ ගිජුලිහිණි
යෙකු බඳු ගෙයක්ද කපිලනම් තපස්වීන්ට කරවනලද්දේය.
99 සුළුපහ සතරක්ද වැසිකිළි සතරක්දැයි පිරිකරසහිතවූ ඒ
100 විහාරයන්ද භික්ෂූන්ට දුන්නේය. අනුරාධපුරයෙහිද පූර්ව
යෙහි දෙමළුන්විසින් නසනලද දුෂ්කරහෙයින් නොයෙක්

101 රජුන් විසින් නොකරවණලද්දාවූ විහාරයන් කරවනුපිණිස එක්අ,මතියෙක් යවා, එක්සිය විසිරියන් උස්වූ රුවන්වැලිසෑය කොටනිමවා එක්සිය සතලිස් රියන්උස්වූ අභයගිරි
102 නම් සෑයද, එක්සිය සැටරියන් උස්වූ ජේතවනසෑයද, අසූ රියන් උස්වූ මිරිසවැටිමහසෑයද, යනමේ පෙර දෙමළුන්
103 විසින් පලනලද්දාවූ මහ රුෂින් වැසුනු වලසුන් දිවියන් නිබද සෙවිනාලද්දාවූ ගඩොල්හා මැටිපිඩු කරණකොට
104 ගෙණ දුකසේ යායුතු ජඞ්ගල භූමිප්‍රදෙශ ඇත්තාවූ තුන් සෑයත් වනය සිඳුවා මනාකොට බඳවා සුණුකම්ද කරවා
105 සැමළු සුධකරවූයේය. එක් එක් පසෙකින් සියක් රියන්වූ
106 සියක් රියන් විසාලවූ උසින් එපමණවූ සොළින්විසින් නස නාලද්දාවූ ලෝවාමහපහය එක්දහස්සසියයක් ගල්ටැම් පි
107 හිටුවා නොයෙක් සියගණන් ගබ්ගෙවලින්හා උතුම් කුළු ගෙවලින්ද සිව්මැදුරු කව්එපෙළින්ද අලඞ්කෘතවූ නො
108 යෙක් මඟල් ඇති අතිශයින් විස්මය එළවන්නාවූකම්මා නා ඇති කොට නරෙශවරතෙම කරවූයේය. සැටක් මහපා ඇ
109 ති ශෙපර්ණී පුෂ්පනම්වූ මහාප්‍රාසාදයද නාටුවාවූ මහෙන්ද්‍ර සෙන නම් ප්‍රාසාදයද බොහෝවූ සීමාප්‍රාකාරයන්ද පිරි
110 වෙන්ද කරවූයේය. දන්ගලක්ද කරවා දන්වැට තැබ්බ විය. ථූපාරාමාදි පරණ පිරිවෙන්හිද ඛණ්ඩපුල්ලපටි සංඛරණයත් කරවූයේය.

111 හේතෙමේ සැගිරියෙහිද සූසැටක් දාගැබ් කරවිය. පුරාණවාසයන්හි සුන්බුන් තැන්ද පිළි සකර කරවිය.

112 මෙසේ විශුඬබුඞ්මත්වූවෝ මහත්වූ සංඛතෙහි පිහිටාද පුණ්‍යක්‍රියාව එකරසකොට ඇතෝ වෙත්යයි දැන ලොකයෙහි කවරනම් පඬිතජනයෙක්තෙම සියල් සුවඑළවනනාවූ පුණ්‍යක්‍රියායෙහි ප්‍රමාදයට පැමිණේද?

මෙතෙකින් සුදිජනයාප්‍රසාදසංවෙගපිණිස කළ මහවස විහාරකාරපණනම්වූ අටසැත්තෑවෙනි අදියර නිමි.

# 79 වෙනි පරිච්ඡේදය.

---

1 නරේන්ද්‍රතෙම නුවරවැස්සන්ට සර්වොපකරණයන් සුලභ
2 කරවනු කැමතිවූයේ ඒ ඒ තන්හි උයන්වතු කරවූයේය; ජන
යන්ට සතුටුඵලවනනාවූ නරේන්ද්‍රතෙම ඵල පුෂ්පධාරීවූ
3 නොයෙක්සියගණන් වෘක්ෂයෙන් සමලඞ්කෘතවූ නන්දනනම්
උයනක් කරවිය. නෙරළු අඹ කොස් පුවක් තල්රුක්ආදී
4 න් එකජාතියෙන් ලක්ෂය ලක්ෂය පමණ රොපණය කරවා
අර්ථානුගතවූ නම්ඇතිබැවින් ලක්ෂඋයනනයයි සම්මතවූ මහ
උයනක් බොහෝවූ උත්සාහඇත්තේ සාඞ්ගිකකොට කර
වූයේය.

5 ග්‍රීෂ්මකාලයෙහි භික්ෂූන්ට නහනුපිණිස ඒ උයනෙහිදු
ගුහා ඇත්තාවූ සිත්කළුවූ ගල්පොකුණුදෙකක් කරවූයේය.
6 රජතෙමේ ඒ පුරයෙහි දිවාවිහරණඇත්තාවූ තමන්විසින්
සතතයෙන් සම්භාවනාකටයුතුවූ සොභාවෙන් බබලනනාවූ
7 දීපනම් උයනෙක, මහමෙව්නානම් උයනෙක, එසේම චිත්‍ර
ලතාවනනම් උයනෙක, මිශ්‍රකනම් උයනෙක, රාජනාරාය
8 ණ නම් උයනෙක, ලඞ්කාතිලකනම් උයනෙක, තිලොක
නන්දනනම් උයනෙක, වානරකරනම් උයනෙක, නයනුස්ස
9 වනම් උයනෙක, මනොහරනම් උයනෙක, නිර්විතපුරනම්
10 උයනෙක, ජඞ්ඝාභාරනම් උයනෙක, පූර්ණවර්ධන නම් උය
නෙක, සංසාරඵලනම් උයනෙක, එසේම චාරුසකනම් උ
11 යනෙක, සාලිපොතනම් උයනෙක, සොමනාථනම් උයනෙ
ක, ඪානකොඞ්කණනම් උයනෙක, උතුරුකුරුනම් උය
12 නෙක, හරුකච්ඡනම් උයනෙක, පූලචේරිනම් උයනෙක,
කීළාකරනම් උයනෙක, පණ්ඩවාවන නම් උයනෙක, රා
13 මෙශ්වරනම් උයනෙක, සාමිසන්තොෂනම් උයනෙක, එ
සේම චින්තාමණිනම් උයනෙක, දුඞ්ගුරනම් උයනෙක, (යන
14 මේ උයන්) කරවූයේය. ඒ නරේන්ද්‍රතෙම රජරට නොයෙක්
15 ගම්නියම් ගම්වලද නවඅනූවක් අභිනව ථූපයන් කරවූයේ
ය. මහීපතිතෙමේ තුන්සැත්තෑවක් පමණවූ ධාතු ගර්භ
16 යන්හි සුන්බුන් පිළිසකර කරවා සුණුවම් කරවිය — සදූස්
එක්සියයක් ප්‍රතිමා මන්දිරයන්ද ප්‍රතිසංස්කරණ කෙළේය.
ජීර්ණවූ ප්‍රතිමාමන්දිර තුන්සියයක් අභිනව කොට කරවූ
17 යේය, සාරසිය සත්තෑසයක් නානාප්‍රකාර ප්‍රතිමාවන් කරවූ
යේය. එක් අනූවක් බොධිවෘක්ෂයන්ද රොපණයකරවූයේය.
සතරදිගින් වඩනා සඞ්ඝයාගේ යාම් ඊම් ආදියෙහි වාසය

18 පිණිස දෙසිය තිසක් ආවසථයන් කරවූයේය. සපණසක්
19 ධර්‍මශාලාවන්ද සක්මන්මළු නවයක්ද කරවූයේය. සූසාළි
සක් අධිකකොට ඇත්තාවූ සියයක් දොරකොටුද, එක්සියඅනූ
20 දෙකක් මලසුන් ගෙවල්ද, සැටසතක් ප්‍රාකාරයන්ද, තෙළෙ
සක් දේවාලයන්ද, ආගන්තුකයන්ගේ ප්‍රයොජනය පිණිස
21 දොළසක් ආරාමයන්ද, දෙසියතිසක් ආගන්තුක ශාලාවන්ද
කරවූයේය. එකුන්තිසක් ධර්‍මශාලාවන් ප්‍රකෘතිවත් කරවූ
22 යේය. භූමිපතිතෙම එක්තිස් ලෙනක්ද ආරාම පසක්ද එ
23 සේම එක්පණසක් ආගන්තුක ශාලාවන්ද නවසැත්තෑවක්
ජීර්ණදේවාලයන්ද (අභිනව කිරීම් වසයෙන් කරවූයේය)
24 අතිශයින් සානත මනුෂ්‍යවූ ඒ රජතෙමේ සත්වයන්ගේ දුර්භි
ක්ෂදුඃඛය නසනපිණිස ඒ ඒ තන්හි නොයෙක් වැව්ද මාති
25 කාවන්ද කරවූයේය. භූමිපතිතෙම කරගඟ මහත්වූ ගල්
හෙයකින් අවුරා ඒ ගඟ විශාලවූ ජලප්‍රවාහය ආකාශ
26 ගඞ්ගානම්වූ මහත් මාතිකාවකින් ගෙණවූත් උතුම් රාජ
ප්‍රාසාදයකින් බබලන්නාවූ දූවක්ඇති පරාක්‍රම සමුද්‍රයයි ප්‍ර
27 සිද්ධ නිබඩවූ දියඇති දෙවෙනි සමුද්‍රයක් වැනිවූ මහවැ
වක් කරවූයේය—ගලින් කරණලද දුර්‍ගමවූ ශතහස්ත ප්‍ර
28 ණාලිකාවක් ඇත්තාවූ පරාක්‍රමතඩාගනම්වූ මහවැවක්ද ක
රවූයේය. හේතෙමේ මිහිඳුතළානම්වූ (වැවක්)ද, එකාහවා
29 ජනම්වූ වැවක්ද, පරාක්‍රමසාගරනම්වූ වැවක්ද, කොට්ටබද්ද
ගඟුල්හැලි නම්වූ වැවක්ද කරවූයේය.

30 නරශ්‍රෙෂ්ඨතෙමේ නොයෙක් තන්හි එක්දහස් සාරසිය
එක් සැත්තෑවක් කුඩාවැව්ද කරවූයේය. එසේම මහීපති
31 තෙම තුන්සියයක් පමණ වැව්වල එපමණම ශෛලමය
වූ (ජලනිර්ගම) ප්‍රණාලිකාවන් කරවූයේය. බිඳුනාවූ බො
හෝවූ පූරාණවැව්ද බැඳවූයේය. හේතෙමේ මින්නේරි
32 නම් මහවැවද, මහාදූරගලලනම් වැවද, සුවන්තිස්නම්වූද
දූර තිස්සනම්වූද, කළාවැව්නම්වූද, බමුණුගම්නම්වූද, නෙ
33 රළුමහටැම්නම්වූද, රෙහෙරනම්වූද, එසේම ගිරිතළානම්
වූද යන මේ වැව්ය. කිඹුල්හෙබ්වැවය, කණවැවය, පදී
34 වැවය, කට්ගම්වැවය, පත්පහන්වැවය, මහණ්ණනම් වැ
35 වය, මහනාම්මතනම් වැවය, වඩුනානානම්වැවය, මාදත්තා
36 නම්වැවය, කණගම්නම් වැවය, වීරවැවය වලස්වැවය යන
37 නම්වූද සුරමාන පහන්ගම් නම්වූ වැව්ද, කාහල්ලි යන
නම්වූ වැවද, අගගම්නම් වැවද, හිලිපත්කඩනම් වැවද,
38 මදගුනම් වැවද, යනමේ ජීර්ණවූ වැවූත් ප්‍රථිවීශ්වරතෙම
ප්‍රකෘතිවත් කරවූයේය.

39 නටුවාවූ සාරසිය සැටසතක් කුඩාවැව් (ප්‍රතිසංස්කරණකර
40 විය) නොයෙක් වැව්වල එක්දහස්තුන්සිය අනූපසක් බිඳුනු
තැන් ස්ථානදනනාවූ රජතෙම සුස්ථිරකොට බැඳවූයේය.
41 පරාක්‍රමසමුද්‍රනම් වැව මකරනම් මුඛයෙන් නික්මුනාවූ ගම්
42 භීරනම් මාතිකාවක් නරේන්ද්‍රතෙම කරවූයේය. ඒ මුඛයෙ
න්ම මහමේවනයට අභිමුඛව නික්මුනාවූ හේමවතීනම්
43 මාතිකාවක්ද එසේම කරවූයේය.——එම පරාක්‍රම සමුද්‍ර
නම් වැව මාලතීදූෂපනම් ප්‍රණාලිකාවෙන් නික්මුනාවූ නීල
වාහිනියයි ප්‍රසිඩවූ මාතිකාවක්ද, එසේම කීළාකරුයතන
නම්වූ ප්‍රණාලියෙන් නික්මුනාවූ සලලවතීනම් මාතිකාවක්ද,
44 වෙත්‍රවතීනමින් ප්‍රසිඩවූ ප්‍රණාලියෙන් බැසගියාවූ වෙත්‍රවතී
නම් මහාමාතිකාවක්ද, දක්ෂිණප්‍රණාලිකාවෙන් නික්ම ගි
45 යාවූ තුඟහද්‍රනම් මාතිකාවක්ද, එසේම් මගලනම් ප්‍රණා
46 ලිකාවෙන් නික්මුනාවූ මගලගඟානම් මාතිකාවක්ද, චණ්ඩි
47 නම්දොර ප්‍රණාලිකාවෙන් නික්මුනාවූ චම්පානම් මාතිකාව
ක්ද, තොයවැවෙන් නික්ම පූර්ණවඩ්ඪනනම් වැවට ගියාවූ
48 සරස්වතීනම් මාතිකාවක්ද, ඒ වැව පශ්චිමදිගින් නික් මු
නාවූ වෙණුමතීනම් මාතිකාවක්ද, පූන්වඩ්ඪනනාවැවෙන්
පශ්චිමදිශාභිමුඛව ගියාවූ යමුනානම් මාතිකාවක්ද, උතු
රට අභිමුඛව නික්මගියාවූ සරභූනම් මාතිකාවක්ද, ලඤ්ඣා
49 දනනය මැදින් ගියාවූ චන්ද්‍රභාගානම් මාතිකාවක්ද, ජේත
වන විහාරාරාමයෙන් නික්ම ගියාවූ නර්මදානම් මාති
50 කාවක්ද, එම වැව උතුරට අභිමුඛව එසේම නික්ම
ගියාවූ නෙරඤ්ජරානම් මාතිකාවක්ද, අනොතත්තනම්
වැවෙන් නික්මගියාවූ භාගීරථීනම් මාතිකාවක්ද, එයින්ම
51 දකුණුදිගට අභිමුඛව නික්මගියාවූ ආවතීගඟානම් මාතිකා
වක්ද, අම්බාලවැවෙන් උතුරුදිගට ගියාවූ තම්බපණ්ණිනම්
52 මාතිකාවක්ද, මගවැලිගඟින් පශ්චිමදිගට අභිමුඛව ගියාවූ
බොහෝකල් දුර්භික්ෂය නසනනාවූ අචිරවතීනම් මාතිකාව
53 ක්ද, එයින් නික්ම නැගෙණහිරට අභිමුඛව ගියාවූ ගොම
තීනම් මාතිකාවක්ද, උතුරුදිගට අභිමුඛව නික්මුනාවූ
54 මලාපහරණීනම් මාතිකාවක්ද, අචිරවතියෙන්ම නැගෙණ
හිරට අභිමුඛව ගියාවූ සතරුඩනම්වූද, නිධ්ඛිතුනම්වූද, ධ
55 වලනම්වූද, සීදනම්වූද මාතිකාය, මිනෙන්රි මහවැව දක්ෂි
ණවාරිමාර්ගයෙන් දකුණුදිගට අභිමුඛව ගියාවූ කාලින්දීනම්
56 මාතිකාවද, එසේම ගිරිතළානම්වැවින් කදුරුවඩමන් ත
ඩාගයට ගියාවූ කාවේරීනම් මාතිකාවද, කදුරුවඩමන් වැ
57 වෙන් බැස අරිමද්දවිජයගමට ගියාවූ සොමවතීනම් මාතිකා

58 වද, ඒ මහීපාලතෙම කරගඟින් නික්ම පරාක්‍රම සාගරනම්
වැවට ප්‍රවිෂ්ටවූ ගොධාවරීනම් මාතිකාවක්ද කරවූයේය.
59. රජතෙමේ කළාවැවෙන් නික්ම අනුරාධපුරයට ගියාවූ නටු
60 වාවූ ජයගඟානම් මාතිකාව කරවූයේය. කුඩා මාතිකාවන්
පන්සිය සූතිසක් කරවූයේය. නටුවාවූ මාතිකා තුන්දහස්
තුන්සියයක් ප්‍රකෘතිවත් කෙළේය.

61 විචක්ෂණවූ ශ්‍රෙෂ්ඨනරේන්‍ද්‍රතෙමේ යුවරජහුගේ රටද
නොයෙක්තැන අනෙකප්‍රකාරවූ කර්මාන්ත කරවූයේය.
62 හේතෙමේ පිළගම ස්ථිතියවූ ප්‍රසූතිමන්දිරස්ථානයෙහි සූතිඝර
නම් චෛත්‍යයක්ද එකසිය විසිරියනක් උත්තුඟ කොට කර
63 විය. දාගැබ් දෙවිස්සක්ද තිස්සතක් බොධිවෘක්ෂයන්ද ප්‍රති
මාමන්දිර සියයක්ද, ලෙන් පසළොසක්ද, සතරදිගින් වඩනා
64 සඞ්ඝයාපිණිස විසිඑකක් ආවාසයන්ද, එසේම අසූසතක්
65 ආගන්තුක ශාලාද කරවූයේය. එකුන් තිසක්පමණ මලසුන්
ගෙවල්ද ධර්මශාලා සතක්ද පවුරුපසක්ද තෙසාළිසක් නා
66 නාවිධවූ ප්‍රතිමාවන්ද කරවූයේය. ජීර්ණවූ ප්‍රතිමාමන්දිර
සූවිස්සක්ද නවකර්මයෙන් සෑදවූයේය. මහගලවැවද, තල
67 ගලවැවද, මිහිපල්තෙමේ දෙශයෙහි ශස්‍ය සමෘද්ධියපිණිස
රුජනනම් දොළද, තෙල්පිසිනම් දොළද, දැදුරුනම් දොළද,
68 ජජ්ජරනම් දොළද, විලත්තාකඩනම් දොළද, බැඳවූයේය.
69 වැව්වල ජීර්ණස්ථාන තුන්සිය අටපණසක්ද, එසේම තෙළෙස්
වැවෙක්හි ශෛලමය ප්‍රණාලිකාවන්ද එකසියසැටක් කුඩා
70 වැව්වල ස්ථිරආවරණයන්ද සත්තිසක්පමණ නටවැව්ද ඒ
මහීපතිතෙම බැඳවූයේය.

71 අන්‍යවූ පූණ්‍යකර්ම කැමතිවූ රජතෙම රුහුණුරටද ගම් නි
යම්ගම්හි නානාවිධ කර්මාන්ත කරවූයේය. රජතෙමේ කිරි
72 ගම තමන් මෑනියන්ගේ ආදාහන ස්ථානයෙහි එකසියවිසි
රියන්- අයම් ඇත්තාවූ රත්නාවලිනම් චෛත්‍යයක්ද, දා
73 ගැප් සොළසක්ද, බොධිවෘක්ෂ සතක්ද, එපමණ මහ බෝ
74 ගෙවල්හා බෝ කොටුද, තෙසාළිසක්පමණ දෙමහල්පිළිම
ගෙවල්ද, ධර්මශාලා දෙකක්හා පන්සැත්තෑවක් ප්‍රතිමාව
75 න්ද, සතරදිගින් වඩනා සඞ්ඝයාට තිස්සතක් ආවාසයන්ද,
සතළිස්සතක් ප්‍රාකාරයන්ද, දොරකොටු විස්සක්ද, එසේම
76 එකුන්සැටක් ආගන්තුක ශාලාවන්ද, ආරාමසතරක්හා මෛ
77 ත්‍රෙය (බෝසත්) රූතුණක්ද, නාටකශාලා පසක්ද, භූ
පාලතෙමේ කරවා ඒ ඒ තැන සුන්බුන්ද ප්‍රතිසංස්කරණ
කෙළේය.

78 තිස්සතක් ථූපයන්ද බෝ කොටු දෙවිස්සක්ද, දෙසිය සූසැ
ත්තෑවක් මහපිළිමගෙවල්ද, එක් දා ගෙයක්ද හොත් පිළිම
79 ගෙවල් සතක්ද, සතළිස් ලෙනක්හා ගඩොළින්කළ මන්දිර
80 සතරක්ද, දිඝ්ඝ්‍රාසාද සතරක්ද තෙමහල්පය සයක්ද ධර්ම
ශාලා එකුන්තිසක්ද, සක්මන්මළු තුණක්ද, වාසමන්දිර එක්
81 සිය විස්සක්ද, පුස්තකාලය එක්සිය අටවිස්සක්ද, ආගන්තුක
82 ශාලා සතරක්ද, දෙවමන්දිර සූවිස්සක්ද, එකසියවිස්සක් ගො
පුරද්වාරයන්ද, එකසිය සවිස්සක් ප්‍රාකාරයන්ද, පෘථිවිශ්වර
83 තෙම පිළිසකර කරවූයේය. උරුවෙල්මහවැවද පඬුවැව
ද, කොළොම්වැවද ආදිකොට ඇත්තාවූ දෙසිය සොළසක්
84 සගසතුවැව්ද, සුන්වැව් සොළසක්ද, ජීර්ණවූ ආවරණ අට
ළොසක්ද, නටුවාවූ කුඩාවැව් දෙසිය පසක්ද ඒ මිහිපති
85 තෙම බැඳවූයේය. වැව් දසයෙක්හි ශෛලමයවූ ප්‍රණා
ලිකාවන්ද කරවූයේය. ඒ ඒ තන්හි සූසාළිසක් මාතිකා
86 වන්ද, කැණවූයේය. මෙසේ සිත්කළුවූ වෙහෙර උයන්
වැව් ආදීන් කරවා ඒ නොයෙක් දෙසින් මුළු ලක සැර
සූයේය.

87 මෙසේ කරණලද විසිතුරු නොයෙක් පින්වෙසෙස්ඇති
සන්තයෙන් ශාස්තෘ ශාසනයෙහි අතිප්‍රසන්නවූ උතුම්වූ ධා
රණප්‍රඥයෙන් යුක්තවූ ඒ පරාක්‍රමබාහු රජතෙමේද තෙතිස්
වසක් රජය කෙළේය.

මෙතෙකින් සුජනයාප්‍රසාදසංවේගපිණිස කළ මහවස
උය්‍යානාදිකාරාපණනම්වූ එකුන් අසූවන අදියර නිමි.

---

# 80 වෙනි පරිච්ඡෙදය.

---

1 ඉක්බිතෙතන් ඒ පැරකුම්බා මහරජනන් බෑනවූ කවීශව
රපණ්ඩිතතෙම විජයබාහුරාජ නමින් ලඞකාශවර විය. ඒ
2 කල සම්ප්‍රාපතවූ රාජ්‍යාභිෂෙකඇති මහාකාරුණ්‍යඇති මේ
ව්‍යක්තතෙමේ තමන් මයිල් පරාක්‍රමබාහු මහරජනන් විසින්
3 දඟගෙසි බඟනලද වධබන්ධනයෙන් පීඩිතවූ ලක්දිව්වැසි
4 ජනයන් ඒ දුකින් මුක්ත කරවිය. ඒ ඒ තන්හි ඒ ඒ සියල්ලන්
ට ස්වකීය ස්වකීය ග්‍රාමක්ෂෙත්‍රාදියත් දී සර්වප්‍රකාරයෙන් ප්‍රීති
5 වර්ධනය කෙළේය, වෙසමුණු රජහට අලකාව මෙන්ද සක්
6 දෙව්රජහට අමරාවතිය මෙන්ද ඒ පොළොන්නරුවම
උහුගේ රාජධානි විය. මහායසස්ඇත්තේ තෙමේම මාගධ
7 භාෂාවෙන් ප්‍රවරවූ සන්දෙශයක් රචනා කොට අරිමර්දන පු
රවැසි නරෙන්ද්‍රයන්ට යවා ආදියෙහි තමාම්මුතුන් විජයබාහු
8 නරෙන්ද්‍රයන් පරිද්දෙන්ම උහුහා සමග මිත්‍රසම්බන්ධය සිනිඳු
කමින් බැඳගෙණ ලඞකාව හා අරිමර්දනදෙසයෙහි භික්ෂූන්
9 ට ප්‍රීතිවර්ධනනාවූ සම්‍යක්සම්බුද්ධ ශාසනය මනාකොට බැබ
ළ විය. පෘථිවීශ්වරතෙමේ මතුනීතික්‍රමය මදකුත් නො ඉක්
10 මවා චතුස්සඞ්ග්‍රහ වස්තුවෙන් මහජනයා සන්තර්පණය කෙ
ළේය. සූරතභාවය සුචිභාවය ප්‍රමුඛකොට ඇත්තාවූ ගුණ
11 යන්ගෙන් යුක්තවූ හේතෙමේ ශුද්ධවූ බුද්ධාදිරත්නත්‍රයෙහි
අතිශයින් ප්‍රසන්නවූයේය. මොනවට හික්මුනේ සතුටු
12 සිත් ඇත්තේ ප්‍රණීතවූ චතුර්විධප්‍රත්‍යයෙන් භික්ෂුසඞ්ඝයාද
උපස්ථාන කෙළේය. බුද්ධිමත්වූයේ මහොත්සාහය දක්ව
13 මින් බොධිසත්වකෙනෙකුන්මෙන් සර්වප්‍රකාරයෙන් සකල
සත්වයන්ට සර්වාර්ථචර්‍ය්‍යාව කෙළේයි. මහා ප්‍රඥාඇතිව ස
තර අගති හැර විනිශ්චය කරනනාවූ හේතෙමේ සුජන දුර්ජ
14 නයන්ට අනුග්‍රහද නිග්‍රහද කෙළේය. මෙසේ ප්‍රකාශවූ ඒ
මිහිපල්තෙමේද ලොකශාසනයෙහි නානාවිධවූ පින්කම්
15 කොට හවුරුද්දක්රාජ්‍යය කෙළේයි.
ඉක්බිත්තෙන් කලිඞ්ගකුලයෙහි උපන් මිත්‍රද්‍රොහීවූ මහින්ද
16 නම් එක් පුරුෂයෙක්තෙම ගොපල්ලදුවූ දිපනීනම් එක් සහායි
කාවක් ලැබ දුර්නීතිඇතොත් දුෂ්ටප්‍රයොගයෙකින් ඒ මිහිපල්හු
17 මරවා සෙනෙවියන්ගේද යොධයන්ගේද කිපියාවූ රටවැ
ස්සන්ගේද ඇමතියන්ගේදැයි යන සියල්ලන්ගේම සම්මුතිය
18 නොලබන්නේ ඉතාදුකින් පස්දිනක් ලඞකාරාජ්‍යය කෙළේයි.

විජයබා රජහුගේ උපරජවූ කාලිග වංශයෙහි උපන් කී
19 ර්ති නිශ්ශඞ්ක නම් ක්‍ෂත්‍රියතෙම උහු මරවා රජවිය, හෙතෙ
ම රාජ්‍යාභිෂෙකයට පැමිනා පුලස්ති පුරවරයෙහි රම්‍යවූ ශෛ
20 ලමය දන්තධාතුමන්දිරයක් කරවූයේය. ඉතා උස්වූ රතනා
21 වලිචෛත්‍යය බඳවා ඒ උතුම්සෑය රන්කොතකින් අලඞ්කෘ
ත කෙළේය. පහ සියෙන් හෙබියාවූ වෙහෙරක් සිය න
22 මින් කරවා භික්‍ෂුසඞ්ඝයාට පරිත්‍යාග කොට උපස්ථාන කෙ
ළේය. පඞිතතෙමේ රන්රිදියෙන් උසස්ව බබලනනාවූ බිතු
23 වැඹින් හෙබියාවූ හිඟුලෙන්කළ භූමිභාගඇති රන්මුවා උ
ළුන් වසනලද දඹකොලනම් වෙහෙරක් කරවා එහි සැත්තෑ
24 තුණක් ස්වර්ණමයවූ බුඞප්‍රතිමාවන් පිහිටවූයේය. ඒ මිහි
පතිතෙම භක්තිපෙරටු කොට සිවුරඟ සෙනඟ සමග සම
25 න්ත කූටපර්වතයට ගොස් මනාකොට වැඳ තාම්‍රපර්ණීද්වීප
යෙහි සැමතන්හි පුෂ්පාරාම ඵලාරාමයන්ද නොයෙක් ශුභ
26 වූ සභාවන්ද මනාකොට කරවූයේය. මෙසේ බොහෝ ආ
කාර පින් දිනක් දිනක් පාසා රැස්කරනනාවූ ඒ පෘථිවීශ්ව
රතෙම නව හවුරුද්දක් මනාකොට රාජ්‍යය කරවූයේය.

27 ඉක්බිතෙත්තන් ඒ මහරජනන් පුත්‍රවූ වීරබාහුයයි ප්‍රසිඞවූ
රජතෙම එක්රැයක්ම රාජ්‍යයකොට මරහු වසඟබවට ගියේ
28 ය—ඉක්බිතෙත්තන් ඒ කීර්ති නිශ්ශඞ්ක රජහුගේම මල්වූ
වික්‍රමබාහු රජතෙම තුන්මාසයක් රාජ්‍යය පරිභොග කෙළේ
29 ය—ඉක්බිතෙත්තන් උහු මරා නිශ්ශඞ්ක රජහු බෑනාවූ චො
ඩ ගඟනම් මහීපතිතෙම නවමසක් රාජ්‍යය කෙළේය.

30 ඉක්බිතෙත්තන් මහබලැති කීර්තිනම් සේනානායකතෙම
ඒ නරනිඳුගේ ඇස් උපුටා උහු දුරුකොට පරාක්‍රම භූජේ
31 න්‍ද්‍රයානන් අගමෙහෙසුන්වූ ලීලාවතී බිසවුන්ලවා නිරුප
ද්‍රවලෙස තුන්අවුරුද්දක් රාජ්‍යය කරවූයේය.

32 ඉක්බිතෙත්තන් ඔක්කාකවංසයෙහි උපනනාවූ වික්‍රමයෙන්
සිංහයෙකුවැනිවූ සාහසමල්ලනම් ක්‍ෂත්‍රියයෙක්තෙම දෙව
සක් රාජ්‍යය කෙළේය.

33 ඉක්බිතෙත්තන් ඉක්මවිය නොහැකි වික්‍රම ඇති ස්වකීයරා
ජකුලය වර්ධනයකරණ පණ්ඩිතවූ ආයස්මන්තනම් සෙනා
34 නායකතෙම ඒ මහීපාලයන් පහකොට කීර්ති නිශ්ශඞ්ක මහ
රජනන් අගමෙහෙසුන්වූ කල්‍යාණවතීනම් බිසවුන් ලවා
35 ධර්ම්මනීතියෙන් සහවුරුද්දක් රාජ්‍යය කරවි—බුඞශාසන
යෙහි මමත්වයඇත්තාවූ ඒ කල්‍යාණවතීනම් දේවීතොමෝ
පර්ණශාලකනම් ගමෙහි සියනමින් වෙහෙරක් කරවා

36 ඊට ගම් නතුකිරීමෙන් ගම් කෙත් පිරිකර මෙහෙකරු
වන්හා උයන් ආදියද දුන්නිය. ඒ බිසව අනුමතියෙන්
37 සකල ලඞ්කාරාජ්‍යානුශාසකවූ කඳවුරුකුල උපන් ආයස්ම
න්තනම් සේනාපතිතෙම දෙවනම් අධිකාරීන් වලලීනම්
38 ගම් යවා එහි මනොහරවූ විහාරයක් කරවා මහසඟහ
39 ට දෙවි. හේතෙමේ ස්වකීය රාජකුලය පිළිබඳවූ වඞ්ක
ඇති සියනම්න් ප්‍රසිඩවූ පිරිවෙණද කරවා ඊට ආරක්‍ෂා විධා
40 නකරන්නේ දුකසේ ඉක්මියයුතුවූ දුර්භික්‍ෂයෙහි අරම් ආදි
යෙන් පිරිවරණලද්දූ ගම් කෙත්හා දැසිදැසයන් දුන්නේය.
41 පූර්ණභක්තිවූ හේතෙමේ මිශ්‍රවූ සිවුකුලජනයා අසඞ්කීර්ණ
කොට ධර්මාධිකරණනම් (නීති) ශාස්ත්‍රයක් කරවි.

42 ඉක්බිත්තෙන් ධර්මාශොකනම්වූ එක් කුමාරයෙක්තෙම
43 හවුරුද්දක් රජකෙළේය. හෙතෙම (රජවනසමයෙහි) උත්
පත්තියෙන් තුන්මසක් ඇත්තේය. මහසෙන්විසින් පෙර
44 වූ කරණලද්දාවූ අණීකගනම් මහඇපාතෙමේ සොළිරටින්
අවුත් ආයස්මන්තසෙනානායකයන් සහිතවූ පුලස්තිපුරාධී
ශ්වරවූ ඒ ධර්මාශොකනම් කුමාරයන් මරවා හෙතෙම සත
ළොස් හවුරුද්දක් රජකෙළේය.

45 ඉක්බිත්තෙන් උහුගේ වික්‍රමාන්විත චමූනක්‍ෂනම්වූ සෙ
නාපතිතෙම ඒ අණීකගනම් නරනිඳු මරා දුර්මතිවූ යේ
46 පූර්වයෙහිදු රාජ්‍යය කළාවූ ලීලාවතීනම් රාජාග්‍රදෙවිය ලවා
47 හවුරුද්දක් රාජ්‍යය කරවිය. ඉක්බිත්තෙන් හුලින් හගනවූ
අංශයක්ඇති ලොකෙශ්වරනම්වූ නරෙන්ද්‍රයෙක් තෙම ප
48 රතෙරින් මහත්වූ දෙමළසෙන්ගෙණ අවුත් මුළු සිරිලක
තමන් වසඟ කොට පොළොන්නරුවෙහි වෙසෙමින් නව
මසක් රජකෙළේය.

49 එකල්හි කළුනනරුවස උපන් ධෘතිමතුන් අතුරෙන්
ශ්‍රෙෂ්ඨමහාබලපරාක්‍රමාන්විතවූ පරාක්‍රමනම් සෙනාපතිතෙම
50 චන්ද්‍රසූර්ය්‍යවංශවයෙන් උපන් රාජතෙජොවිලාස ඇත්තාවූ
ලීලාවතීනම් ඒ මෙහෙසිය නැවතද රාජ්‍යයෙහි අභිෂෙක
51 කෙළේය. මෙසේ ඒ මෙහෙසියට සත්මසක් පමණ ගිය
කල්හි තෙජස්ඇත්තාවූ පරාක්‍රමනම් පඬිරජතෙම මහත්වූ
52 පඬිසෙන් ගෙණ පඬිරටින් (අවුත් ලක්දිව්) බැස ඒ දෙවි
යද පැරකුම් සෙනෙවියන්ද පහකොට ලඞ්කාද්වීපය නිෂ්ක
53 ණ්ටකකොට පුලස්තිපුරවරයෙහි (වෙසෙමින්) මනුනීතිය
නොඉක්මවා තුන්හවුරුද්දක් රාජ්‍යානුශාසනා කෙළේය.

54 ඉක්බිතිතෙන් ලඞ්කාවාසිවූ ජනයන්ගේ රෞද්‍රවූ අතිශ
යින් උත්සන්නවූ යම්කිසි පාපකර්‍මයක් කරණකොටගෙණ
55 ඒකල ලඞ්කාරක්‍ෂාවෙහි නියුක්තවූ දෙවතාවුන් ඒ ඒ තන්හි
56 ආරක්‍ෂාවිධානය කරන්ට උපෙක්‍ෂාකරණ කල්හි මිථ්‍යාදෘෂ්ටි
යෙන් සමාදන්වූ දුර්නීතියෙහි නිබඳඇලුනු සිත් ඇත්තාවූ
57 දානාදි කුශලකර්‍මනැමැති වනලැහැබ දැවීමෙහි ලැව්ගිනි
බඳුවූ සද්ධර්‍මනැමති කෛරවපඞ්ක්තිය හැකිළීමෙහි සූර්‍ය්‍යා
58 සමානවූ ක්‍ෂාන්තිනැමැති පියුම්විල්පෙළ කාන්ති ආක්‍රම
ණයෙහි චන්ද්‍රයාවැනිවූ මහා මොහයෙන් හිස්කළ විචා
59 රණඇති කාලිඞ්ගවංශයෙහි උපන් මාඝනම්වූ එක් අධාර්‍මි
ක මහිපාලයෙක්තෙම සූවිසිදහසක් යොධයන්ට අධිපති
වූයේ කලිඞ්ගුරටින් බැස ලඞ්කාද්වීපය ගත්තේය.

60 මාඝනරෙන්ද්‍ර නැමැති මහාග්‍රීෂ්මයතෙම ලඞ්කාරාජ්‍යය
නැමැති මහවනය පෙළන්ට බොහෝවූ යොධ නැමැති
61 ලැව්ගිනි මෙහෙයීය. ඉක්බිති ලොකයාට පීඩාකරනනා
වූ උහුගේ ක්‍රූරවූ මහායොධයෝ "අපි කෙරළ යොධයම්
62 හ" යි උන්නාදකෙරෙමින් තැනින්තැන මිනිසුන්ගේ වස්ත්‍රා
භරණාදිය පැහැර ගත්හ. බොහෝකල් පාලනය කරණ
63 ලද්දාවූ කුලාචාරය කඩකළහ. හස්තපාදාදිය කැපූහ. බො
64 හෝ ගෙවල් බිඳපූහ, ගවමහිෂාදීන් තමන් අයත්කොට
බැඳපූහ, මහධනවත්වූ ආඪ්‍යජනයන් බැඳ වධ කොට සියලු
65 ධනය හැරගෙණ ඔවුන් දිළිඳුකළහ. පිළිමගෙවල් කැඩූ
හ, බොහෝවූ චෛත්‍යයන් වැනසූහ. විහාරයන්හි විසූහ,
66 උපාසකයන් පහරදී පෙළූහ, දරුවන් තැළූහ, පස්සහ දැ
මියන් පෙළූහ, ජනයන් ලවා බර ඉසිලවූහ, බොහෝවූ
67 කාර්‍ය්‍ය කරවූහ, ඔව්හු ප්‍රසිද්ධ ප්‍රශස්තවූ බොහෝ පොත් ලනූ
68 වෙන් මුදා ඒ ඒ තැන විසිරවූහ, ශ්‍රද්ධාඇත්තාවූ පූර්‍වනරෙන්ද්‍ර
යන්ගේ කීර්ත්තිශරීරසමානවූ රත්නාවලිආදිවූ උස්මහත්වූ
69 චෛත්‍යයන් හෙලමින් වනසා ඒ චෛත්‍යයන්ගේ ජීවිත
සමානවූ බොහෝ ශාරීරික ධාතූන් අතුරුදහන් කළහ.
අදෝමය!

70 මෙසේ දුෂ්ටඅදහස් ඇත්තාවූ මාරයොධයන් සමානවූ
ද්‍රවිඩයොධයෝ ලොවද සස්නද නැසූහ. ඉක්බිත්තෙන්
71 පුලස්තිනම් පුරය සර්‍වප්‍රකාරයෙන් හාත්පසින් සිරකොට
72 පැරකුම් පඬිරජු ගත්හ. ඉක්බිත්තෙන් ඒ නරෙන්ද්‍රයා
නන්ගේ ඇස් උපුටා මුතුවෙරළුම්ණිආදිවූ සියලු ධනය පැ
73 හැර ගත්හ. ඉක්බිත්තෙන් ඒ කාලිඞ්ග මාඝරජහු මාණාභර

74 ණඳිවූ ඒ ප්‍රධානයොධයෝ ලඞ්කාරාජශ්‍රියෙහි අභිෂෙක කා
ළහ. මෙසේ ඒ මාඝනරේන්‍ද්‍රතෙම රට ගෘහාක්‍රාන්ත කොට
75 ගෙණ රාජ්‍යාභිෂෙකයට පැමිනා පොළොන්නරුවෙහි විසීය.
ඒ මහීපාලතෙම මහජනයා මිසදිට්ඨු ගන්වා අමිශ්‍රිතවූ සතර
76 කුලයෙහි ජනයා අත්‍යන්තයෙන් මිශ්‍රකෙළේය. සිංහලයන්
77 අයත්වූ ග්‍රාමක්‍ෂෙත්‍ර ගෘහාරාම දාසගවමහිෂාදි සියල්ල දෙමළ
එන්ට දෙවීය. විහාරයන්හා පිරිවෙන්ද බොහෝ දේවාල
78 යන්ද තිසියම් යොධකෙනෙකුන්ගේ වාසස්ථානපිණිස නි
යම කෙළේය. හේතෙමේ බුදුන් අයත්වූද එසේම දහම්
සඟ අයත්වූද ධනය හැරගෙණ නරකයට යනුපිණිස බො
79 හෝ පව් ඉපදවූයේය. මාඝනම් මහිපතිතෙමේ මේ පරිද්
දෙන් බලාත්කාර (ක්‍රියා) කොට එක්විසි වසක් ලක්දිව් රජ
ය කරවී.

80 මෙසේ ලඞ්කාද්වීපයෙහි ඒ ඒ නරෙන්‍ද්‍රයෝ මහත්වූ ධන
ලොභයෙන් ඒ ඒ රජුන් මරා තුමූත් මේ කර්මයෙන් ආයු
නැතිව රාජ්‍යයට පැමිනත් එය බෝකල් අනුභව කරන්ට
නොහැකිවූහ, අධෝමය! එහෙයින් ප්‍රාඥවූ ජනතෙමේ ප්‍රා
ණඝාතයෙන් වලකීවා, විසමවූ ධනලොභය හරීවා.

මෙතෙකින් සුදිජනයාප්‍රසාදසංවෙගපිණිස කළ මහාවංශ
සොළසරාජකනම්වූ අසූවෙනි පරිච්ඡේදය නිමි.

---

# 81 වෙනි පරිච්ඡේදය.

---

1 ඒ රාජාන්තරයෙහි මහපිනැති බොහෝවූ ඇතම් ජනයො
නෙක් ඒඒ මහාදුර්ගපර්වතයන්හි මනොඥවූ නාගරග්‍රාමයන්
2 කරවා ඒඒ තැන වාසය කරන්නෝ ලොකයද ශාසනයද නි
3 රවුල්කොට පාලනය කළෝය. සතුරන්විසින් දුකසේ නැංග
යුතුවූ යහපව් මතුයෙහි අලකමදපුරය සේ පුරයක් කොට සු
4 භනම් සෙනෙවිතෙම වෙසමුණුරජුසේ එහිවසන්නේ දෙමළ
එන් නැමැති රකුසන් වලකමින් ඒ දෙසද එහි පවත්නා
5 බුඞශාසනයද පාලනය කෙළේය. සතුරන්විසින් ලංවිය
නොහැකි ගොවින්ද නම් පර්වතමස්තකයෙහි පුරයක් කොට

6 ගෙණ වසනානාවූ ලොකයෙහි ප්‍රසිඬවූ වික්‍රමඇති භුවනෙක
බාහුනම්වූ ඇපා මිහිපතිතෙම රුහුණුරටද (එහිවැසි) භික්‍ෂු
7 සඞ්ඝයාහා සස්නද රක්‍ෂාකෙළේය. එසේම මිණිමෙවුලානම්
8 රට උස්වූ ගංදෙණිනම් පර්‍වතයෙහි උතුම්වූ පූරයක් කොට
ගෙණ එහි වසන්නාවූ සඞ්ඛනම් සේනාපතිතෙම එසින්
9 දෙයොදුන් මතුයෙහි වසන්නාවූ ඒ දුෂ්ටමාඝ රාජසේනාවද
තණපතකටත් නොතකමින් බියරහිතවූයේ ඒ රටද එහි සස්
10 නද රක්‍ෂාකෙළේය. එකල්හි වනාහි ශ්‍රිසඞ්ඝබොධි රාජවංශ
11 යෙන් පැවැතආවාවූ මනොඥ වික්‍රමාන්විතවිජයබාහුයයි
ප්‍රසිඬවූ රජතෙම පසමිතුරුබියෙන් ඒ ඒ මහවනයට දුගී
12 යට පිවිස බෝකල්වැස වන්නිරජබවට පැමිනියේ සියලුම
13 සිංහලාමාත්‍යයන් තමන් වසගකොට මහබලැත්තේ සිංහ
ලසේනාව සමග නික්ම මහාතෙජස්කන්ධයක් අඳුරු සෙයින්
14 යුද පිණිස සැදුනු චතුරගසමන්විතවූ සියලුපසමිතුරු සෙන්
වැනසූයේය. කැමතිපරිද්දෙන් ගමෙක් ගමෙක්හි ගෙ
15 යක් ගෙයක් පාසා වාසය කරනනාවූ සියලුම ද්‍රවිඩ යොධ
යන් ඒ ඒ තැනින් පලවාපීය. ඒ ප්‍රධානවූ මායාරට සතුරු
16 කටු පහකොට එහි අතිශයින් උස්වූ දඹදෙණි පව්මතුයෙහි
මනරම් පව්රුවාසල් යුක්තවූ රම්‍යවූ පූරයක් කරවා එහි සැ
පසේ වෙසෙමින් පඬිතවූ ඒ මහීපතිතෙම රජකෙළේය.
17 ඒ ඩබරයෙහි අනිකක් තිම පෙරතුව පොළොන්නරුවෙන්
ශාස්තෲහුගේ පාත්‍රධාතුවහා දන්තධාතුව ගෙණ වාගීශවරාදි
18 සියලු මහාස්ථවිරයෝ නික්ම මායාරටට අවුත් එහි කොත්ම
ලයනම් පව්වෙහි එක් පියසෙක්හි නිහියවූ ස්ථානයෙක්හි
19 සාදරවූවෝ ඒධාතුයුග්මය නිධාන කළෝ, ඉක්බිත්තෙන්
20 ඔවුන් අතුරෙන් වාගීශවරාදි යම් මහාස්ථවිර කෙනෙක් ශාස
21 නස්ථිතියට කාරණවූ ලඞ්කාරක්‍ෂාව සොයමින් අතිශයින් ක
ම්පිතවූ රළමාලාඇති මහාසමුද්‍රයද තරණයකොට පඬිසො
22 ළි ආදිරට ගියහුද, කරුණවට ආකරවූ ඒ විජයබාහුනරෙ
න්‍ද්‍රතෙම මහාමාත්‍යයන් යවා ඒ සියලුවහන්දෑම නැවත ඒ
23 රටින්(මෙහි)කැඳවූයේය. හේතෙමේ ආවාවූ ඒ මහතෙරුන්
වැඳ දන්තධාතුපාත්‍රධාතුවය කොතැන තිබෙන්නේදැයි විචා
24 ළේය. අසවල්තැනයයි උන්වහන්සේලා වදාළකල්හි න
රෙශවරතෙම පචවර්ණප්‍රීතියෙන් සම්පූර්ණවූ සර්‍වාංග ඇතිවූ
25 යේය. ඒ මිහිපතිතෙම ඒ මහතෙර සමූහයා පෙරටුකොට
ඒ කොත්මල පව්වටද සෙන්සමග වැඩියේය. පර්‍වතය
26 හාත්පස මහපූද කරවා සතුටු සිත්ඇත්තේ දංෂ්ට්‍රාපාත්‍රධා
27 තු යුග්මය එහි දුටුයේය. එකල්හි පෘථිවීශවරතෙමේ චක්‍ර

රත්නාදි රත්නයන්හෝ මහානිධානයක් ලබනාමෙන්ද
28 නිර්වාණයට පැමිනෙනනාමෙන්ද සතුටුවූ සිත්ඇත්තේ ම
න්ධාතුනරේන්ද්‍රයන් සමානසම්පත් ඇත්තේ ඒ ධාතුයුග්
29 මය ගෙණ මහත්සැණකෙළියෙන් යුක්තව ගමින් ගමට
පුරයෙන් පුරයට ගෙණවුත් සජ්ජනයාවිසින් ආරබ්ධදර්ශනීය
30 මහොත්සවඇත්තාවූ රම්‍යවූ දඹදෙණිපුරයට ගෙණයේය.

පණ්ඩිතවූ රජතෙමේ මේ ධාතුන්වහන්සේලාට මහත්වූ පූජා
විධිය දවසක් දවසක් පාසා පවත්වන්නේ ඉක්බිත්තෙන්
31 මෙසේ සිතුයේය, "සර්වප්‍රකාරයෙන් අනාගත කාලයෙහි අ
න්‍යනරේන්ද්‍රයෙක් වූකල මේ බුද්ධධාතූන්ට පරසතුරන්ගෙන්
32 යම්සේ පීඩා නොවන්නීද එපරිද්දෙන් අතිශයින් දුර්ගමස්ථි
රවූ නිධානස්ථානයක් සකසා කරවන්නෙමි" යි සිතා යම්සේ
33 අහස්හි දෙවියන් විනා පොළවෙහි පසමිතුරු මිනිසුන්විසින්
යනු නොහැකිවේද එපරිද්දෙන් බෙලිගල හාත්පසින් පව්
34 රැදෙරටු ආදියෙන් සුරක්ෂිත කොට ඒ ගලමත්තෙහි උතු
35 ම්වූ දංෂ්ට්‍රාධාතුමන්දිරයක් දෙව්ලොවින් ආවාවූ දෙව්විමනක්
මෙන් මනරම් කොට කරවා, ඒ හාත්පසද නානාවිධ ප්‍රාසාද
36 මණ්ඩපාඤ්චිතවූ රාත්‍රිස්ථාන දිවාස්ථාන ප්‍රතික්‍රමණශාලාවෙන්
ශොභනවූ වැව්පොකුණින් යුක්තවූ සඞ්ඝාරාමයක්ද කරවා
37 පණ්ඩිතවූ රජතෙමේ ඒ ධාතුමන්දිරයෙහි දංෂ්ට්‍රාපාත්‍රධාතු
යුග්මය මහත්වූ සැණකෙළියෙන් ආදරසහිතව පිහිටවූ
38 සේක — ධාතුරක්ෂාවෙහි නියුක්තවූ ස්ථිරශීලීවූ ස්ථවිරයන්
ට ඒ සඞ්ඝාරාමයද දී දන්වැටද තැබ්බවූයේය. දවසක් දව
39 සක් පාසා ධාතූන්වහන්සේලාට උතුම්වූ පූජාවිධි මහොත්ස
40 වය මනාකොට පවත්වනුපිණිස ව්‍යවස්ථා කරවූයේය —
ඉක්බිත්තෙන් පෘථිවීශ්වරතෙම සම්‍යක්සම්බුද්ධශාසනයට ශ්‍ර
ද්ධාවෙන් උපකාර කරන්ට පටන්ගත්තේය. ඒ කෙසේදැයි
කියනුලැබේ.

41 ලඞ්කාද්වීපයෙහි සද්ධර්මසංයුක්තවූ බොහෝ පොත් පරසතු
රන්විසින් නසනලදැයි සංවෙගප්‍රාප්ත සිත් ඇත්තේ ධාරණ
42 ඥානයෙන් සම්පන්නවූ ශ්‍රද්ධාවන්ත බහුශ්‍රුතවූ කුසීතබැව් නැ
ත්තාවූ මනොඥලෙස වහාලියුම්හි දක්ෂවූ උපාසකයන්ද
43 එසින් අන්‍යවූත් බොහෝවූ පොත්ලියන්නන් එකතන්හි රැස්
44 කරවා මහීපතිතෙමේ ඒ සියල්ලන් ලවා ආදරසහිතව සූවා
සූදහසක් ධර්මස්කන්ධයන් මනාකොට ලියවිය. හේතෙමේ
45 ඒ ධර්මස්කන්ධ ගණනින් ඔවුන්ට එපමණම සියල් රත්ක
හවණු දී ධර්මපූජාද කරවා පුණ්‍යභාරයද රැස්කෙළේය.
46 ත්‍රිසිංහලයෙහි ශීලාචාර ධූරන්ධරවූ යම් ස්ථවිර කෙනෙක්

47 වෙඳ මධ්‍යම කෙනෙක් වේද්ද නවක කෙනෙක් වේද්ද යම් සාමණේර කෙනෙකුත් වේද්ද ශාස්ත්‍රශාසනපාලක
48 වූ ඒ සියල්ලන් රැස් කරවා අසමගිවූවන්ද සමගිකරවා ඉක්බිතෙතන් "උපසම්පදතොමෝ ශාසනාභිවෘද්ධිය පිණිසවේ,
49 මම ඒ මනාකොට කරවන්නෙම්නම් යෙහෙකැ" යි සිතා
50 සමගිවූ ඒ සියලුම මහසඞ්ඝයාට ඒ රජතෙමේ අටපිරිකර දී වැඩියක් සතුටුවූ සිත් ඇත්තේ මොනවට පටන්ගනනා
51 ලද පූජාසත්කාරපූර්වකොට සත් දවසක් උපසම්පදමඞ්ගලය කාරවූයේය. මිහිපතිතෙමේ සවතිය නාමයෙන් ලොකයෙ
52 හි ප්‍රසිද්ධවූ විජයසුන්දරනම් ආරාමයක් කරවා සාඞ්ඝිකකොට සඞ්ඝයාට දුන්නේය, "සැදැහැ ඇත්තාවූ යම්භික්ෂූහුහෝ සා
53 මණේරවරයෝහෝ තුන්පිටකය ඉගණගණිත්ද සැමකල්හි සර්වප්‍රකාරයෙන් වාචොද්ගතකෙරෙද්ද ඒ සියලු වහන්දෑ ප්‍රත්‍යය නිසා දුක්අනුභව නොකෙරෙත්වා, කරුණාකොට මා
54 ගේ වාසලට පැමිිනි අභිමත අභිමත ප්‍රත්‍යය පිළිගණිත්ව"
55 යි කියා පවරා තමන්මන්දිරචාරයට පැමිනි පැමිනි බොහෝ වූ ඒ භික්ෂූන්ට දානයෙහි විසාරදවූ ඒ රජතෙමේ උතුම් අ නාගිවූ පිණ්ඩපාතය දුන්නේය.

56 ඉක්බිතෙතන් තෙරමහතෙරතනතුරුපත්වූද සියලුම
57 භික්ෂූන්ට රජතෙමේ භොජනපාකයෙහි වියදම්ද තැබූයේය.
58 මිහිපල්තෙම මේ මේ පරිද්දෙන් ශාසන සඞ්ගහ කොට ඒ කානනයෙන් එම සඞ්ග්‍රහයෙන් බුද්ධාදිරතනත්‍රය පිදූයේය. ඉක්බිති රජතෙමේ වත්තල්ගම්හි භික්ෂූන්ට සවතියනම්න්
59 විජය බාහුනම්වූ විහාරයක් මොනවට කරවූයේය. ඉක්බිත් තෙන් ඒ මිහිපතිතෙමේ කැලණිනම් වෙහෙර ද්‍රවිඩයොධ
60 යන්විසින් වනසනලද්දවූ උතුම් මහා චෛත්‍යය බඳවා ඊට සවර්ණමයවූ කොතක්ද කරවා ඊට පූර්වභාගයෙහි වහසල්කඩද කරවූයේය. එහිම පිළිම මැදුරු පව්රුවලලු ආදිවූ සියල්
61 
62 තැන ජීර්ණප්‍රතිසංස්කරණය කෙළේසි. මායාරට යම් පහ පිළිමමැදුරු වෙහෙර පිරිවෙන්හා එසේම චෛත්‍ය මණ්ඩප
63 ප්‍රාකාර ගොපුරචාරදිහු වෙත්ද ඒ ඒ (ප්‍රාසාදදින්ගේ) පූර්ව
64 යෙහි පරිද්දෙන් නවකර්මාන්ත කරන්ට රජතෙමේ නියොග කෙළේය. ඉක්බිත්තෙන් තමන් ලොකයහා ශාසනයට
65 අභිවෘද්ධියක් අධිකකොට කරන්ට කැමතිවනනාවූද රජ තෙමේ මෙසේ සිතූයේය. "මහළුබැව්පැමිනා යෞවනය ගෙවූනකල්හි මාවිසින් රාජ්‍යශ්‍රීතොමෝ ලද්දීය, එහෙ
66 යින් දැන් අනුභවකරණලද්දේවිය. මේ කාලයෙහි ජය ගෙණ අවශිෂ්ටවූ යම් දුෂ්ටවූ පසමිතුරුකෙනෙක් වේද්ද ඒ

67 සියල්ලන්ද මැඩ එසේ ලොකය පාලනය කරන්ටද නට
බුන්විහාරසම්බන්ධවූ නවකර්ම්ම කරවා ලොකාභිවෘද්ධියද කර
68 ණට කාලය මදය" යි සිතා පණ්ඩිතවූ රජතෙම තමන් ඖ
රසපුත්‍රවූ පැරකුම්බා කුමරුය බුවනෙකබා කුමරුය යන
69 කුමාරදෙදෙනාගේම ලක්‍ෂණ ලක්‍ෂණවෙදීන් සමග විමසා
70 යමක් කරණකොටගෙණ හේතෙමේ තමන් බලතෙදීන්
71 ශත්‍රුමර්දනය කොට සකල ලඞ්කාවද නිරුත්තරසේ එකච්
ඡත්‍රකොට සර්ව්ඥශාසනයද අතිනිර්ම්මල කොට වඩා දිසාන්ත
72 දිසාවන්හි කීර්තියද පතුරුවා නොයෙක්දෙශයෙන් අනාඃ
පුරරාජකනාකදී පඬුරුද ලැබ බොහෝකලක් චිරප්චක්‍ර
වර්තිවන්නේද පැරකුම්බානම් කුමරහුගේ මේ ලක්‍ෂණය
73 දුටුයේය. මෙසේ දැන සතුටුකඳුලෙන් පිරුණු ඇස්ඇත්
තේ උහු ඇකයෙහි හිඳුවා නොයෙක්වර හිස සිඹ ලඟසිටි
74 යාවූ උහු මල් කුමාරයාද නැවත නැවත ස්නෙහයෙන් බලා
ඔවුන්ට නානාප්‍රකාර උතුම් අවවාද දී මේ දෙදෙනම සකල
75 කලාශිල්පාදියෙහි හික්මවා පණ්ඩිත කරවූයේය. ඉක්බිත්
76 තෙන් ඔවුන්අතුරෙන් පරාක්‍රමබාහුනම්වූ ශ්‍රෙෂ්ඨපුත්‍රයා ස
ඞ්ඝරක්‍ෂිතනමින් ප්‍රසිද්ධවූ මහාස්වාමීන් ප්‍රමුඛ කොට එකල
77 රුස්වූ සඞ්ඝයාට පාවාදී එයින් පසු උහුටත් මුනීන්ද්‍රයන්ව
හන්සේගේ දංෂ්ට්‍රාපාත්‍රධාතුයුග්මයද මහාසඞ්ඝයාද සියලුම
78 ලඞ්කාවාසිජනයාද එසේම පාවාදී, මිහිපල්තෙමේ ඔහුට ම
නා කොට අනුශාසනා කෙළේය. මෙසේ නරෙශ්වරතෙමේ
79 ලඞ්කානැමති මහාක්‍ෂෙත්‍රයෙහි රාජබීජය නික්‍ෂිප්තකොට
සිවුහවුරුද්දක් රජය වලඳා ස්වර්ගප්‍රාප්තවූයේය.

80 මේ විජයබාහුනරශ්‍රෙෂ්ඨතෙම සියලු ලොකයද බුද්ධශාස
නයද යම්සේ පාලනය කෙළේනම් අනාගතකාලිකවූ
ලඞ්කෙශ්වරයෝත් එසේම ඒ ලොකශාසනදෙක අභය දෙ
මින් පාලනය කෙරෙත්වා.

මෙතෙකින් සුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
එකරාජකනම්වූ අසූඑක්වන අදියර නිමි.

# 82 වෙනි පරිච්ඡේදය.

---

1 පියරජහු ඇවෑමෙන් ඒ පරාක්‍රමබාහුනම් රජතෙමේ ත්‍රිසිං
2 හලගතවූ සියලු මහජනයා එකතුකොට රම්‍යවූ පුරය අලඞ්
කාර කරවා ශක්‍රදෙවරාජයාට සමවූයේ පළමුකොට අභිෂෙ
3 ක මහොත්සවය කරවූයේය. ඒ (නරේන්ද්‍රොත්තමයා) තෙ
මේ පණ්ඩිත බැවින් කලිකාලසාහිත්‍යසර්වඥපණ්ඩිතයන ප්‍රසිද්ධ
4 (උපපද) නාමයද ලැබූයේය තමන්මල්වූ භුවනෛකබා
5 හු ක්‍ෂත්‍රියයන්ටද යුවරජබැව් දී රාජ්‍යභාගයක්ද දෙවූයේය.
හේතෙමේ "මම ලඞ්කාඞ්ගනාව මා අයත්ම කරන්නෙමි අනි
6 කෙකුට අයත් නොකෙරෙමි" යි පරශත්‍රූන් මැඩීමෙහි අභි
මත් බැන්දේය. හේතෙමේ "පළමුවෙන් සර්වඥදංෂ්ට්‍රාධාතු
7 පූජාව කොට පසුව ද්‍රවිඩයුද්ධයට යනෙනමි" යි සිතා මහත්වූ
පූජා සමග ඒ දළදාධාතූන්වහන්සේ බිලලැනම් පර්වතයෙන්
ජම්බුද්‍රොණි නම් පුරප්‍රවරයට වැඩමවූයේය.

8 මිහිපල්තෙම තුන්වේලෙහි සිතු සිතූ කෙණෙහි ආදරස
9 හිතව වඳින්ට මාගේ ආලයක් ඇතැයි සිතමින් තමන් ම
න්දිරය සමීපයෙහිම රම්‍යවූ දන්තධාතුමන්දිරයක් කරවූයේ
10 ය. ඒ රජතෙමේ ඒ (මන්දිරය) මැද මාහැඟි අස්නක්කර
වා එය මහඟු ඇතිරියෙකින් ප්‍රතිච්ඡන්න කරවූයේය. මහී
11 පතිතෙම මහාමාණික්‍යයකින් දන්තධාතුවට එක් ආධාර
යක් කරවා ඉන්පසු හේතෙමේ නැවතත් විචිත්‍රවූ මාණික්‍ය
12 යෙන් ඊට ආධාරවූ මනහර උතුම්වූ මහත් මිණිකරඬුවක්
කරවූයේය.

13 ඉක්බිතෙනත් ඊට ආධාරකොට සුවර්ණනිෂ්කයන් පන්ද
හසකින් දෙවෙනි කරඬුවක් කරවූයේය. පසුව ඒ රජතෙ
14 මේ රිදීනික් පස්විසිදහසකින් තුන්වෙනි කරඬුවක් නැව
15 තත් කරවීය. ඉක්බිත්තෙන් නරෙන්ද්‍රතෙමේ දාගෙය පටන්
පුරය අලඞ්කෘත කොට දළදාමහපූජාවක් ආදරසහිත කොට
16 කරවා දන්තධාතූන්වහන්සේ සවතීයහංසනැමැති පද්ම
යෙහි තබාගෙණ මහසඞ්ඝයා මධ්‍යයෙහි මෙසේ සත්‍යක්‍රි
යා කෙළේසි.

17 "මහත් ඍද්ධිමත්වූ මොනෙය්‍යගුණඇත්තාවූ භාග්‍යවත්
18 නරෙත්තමවූ දෙවාතිදෙවවූ අපසර්වඥතෙම තුන්වරක්
මේ ලක්දිවට වැඩ ඒ ඒ තන්හි වැඩහිද සොළොස්තැන්

19 උතුම් පාරිභොගික (චෛත්‍ය) කොට වැඩිසේක්ද, එහෙයින්
මිථ්‍යාදෘෂ්ටිකරජුන්ගේ විෂයෙහි ලබ්ධාව නොසිටිතිය සම්‍යං
20 ග්දෘෂ්ටිකරජුන්ගේ විෂයෙහි මනාලෙස පවත්නිය. පූර්වයෙ
හිදු මේදිවයිනෙහි මුටසීවනම් මිහිපතිහු පුත්‍රවූ නාගයෙහි
21 දක්‍ෂ අසෙලනම් නරෙශ්වරයෙක් වූයේද අශ්වනාවිකාපුත්‍රවූ
22 සෙනය ගුත්තිකය යන දෙමළුන් දෙදෙනා දිනා බුද්ධශාස
නය පාලනය කරන්නේ රාජ්‍යය කරවිය. ඉක්බිත්තෙන්
දුටුගැමුණුයයි ප්‍රසිද්ධවූ අභයමහරජතෙමේ ඒළාරනම් සොළී
23 රජු දිනා ලෝසසුන් පාලනය කෙළේය. ඉක්බිත්තෙන්
වට්ටගාමණීනම් මහීපාලතෙම යුදයෙහි ඉතා කාර්‍ය්‍යශූරවූ දෙ
24 මළුන් පස්දෙනා දිනා ලෝසසුන් පාලනය කෙළේය——
ඉක්බිත්තෙන් ධාතුසේන රජතෙමේ නොයෙක් මහායොධ
25 යන් ඇති දෙමළරජුන් සදෙනෙක් දිනා ලෙව්සසුන් පාල
නය කෙළේය. නැවත මහාවිජයබාහු රජතෙමේද යුධ
26 යෙහි සොළිදෙමළුන් පලවා ලෙව්සසුන් පාලනය කෙළේ
ය——දැනුදු විහාරාදියහා ශාස්තෘන්වහන්සේගේ ශාසනය
27 නසා ඒ පිහිටිරට වසනනාවූ උඩගුවූ දෙමළුන්ද මාඝරජුය
28 ජයබාහුය යන මේ දෙදෙනද දිනා ලෙව්සසුන් වඩන්ට
මම ප්‍රාර්ථනා කෙරෙමි. මේ වචනයද සත්‍යය,

29 අතික් නිසිවකදු මම තියම්, ජින්වත් මහායසස් ඇති කො
සලාදිවූ භූමිපාලයෝ ජීවමානවූ ශාස්තෘන්වහන්සේගේ සම්
මුඛයෙහි ධර්මදෙශනාවද අසා නානාවිධවූ පෙළහරද දැක
30 කරණලද අර්ථ ඇතිවූහ, සර්වඥයන්වහන්සේ පිරිනිවිකල්හි
උපන්නාවූ මහත් සෑඩ්ඇති ධර්මාශොකාදිභූපාලයෝ නා
31 නාවිධ නිර්මිතබුද්ධරූපාදි ප්‍රාතිහාර්‍ය්‍යය දැක ඡන්දිය සවිතිය
ජීවිතය මොනවට සඵල කළහ, බුද්ධසාරතෘයන් කොට නි
32 ම්වා මලලරජුන්ගේ උපවත්තන නම් සල්උයනෙහි පරි
33 නිර්වාණමඤ්චකයෙහි හොත්තාවූ ලොකනාථවූ භාග්‍යවතුන්
වහන්සේ ප්‍රාතිහාර්‍ය්‍යපිණිස මහඉටන් පසක් කරණසේක්
34 අධිෂ්ඨානයනුත් නොකළසේක්ද? එතැන්පටන් අද
දක්වාත් යම් ශාරීරික ධාතුකෙනෙක් වෙත්ද යම් පාරිභො
35 ගික ධාතුකෙනෙකුත් වෙත්ද ඒ සියලුම ධාතූහු මේ ලො
කයෙහි පෙළහර කෙරෙති එහෙයින් ඒ ඒ ඉටන් කරනායාවූ
36 මුනිශ්වරවූ සර්වඥතෙම සියසස්න පස්වාදහසක් පවත්නා
කල අනාගතකාලයෙහි ශ්‍රද්ධාසීල්ධුරන්ධරවූ මහිපාලයන් දක්
37 නේ ඔවුන්අතුරෙහි මාද නුවනැසින් නුදුටුසේකැයි නො
හඟිමි. ඉදින් ශ්‍රෙෂ්ඨයන්වහන්සේවිසින් දක්නාලදුයෙම්ද
38 ඉදිනුත් ඒ පූර්වමහාවීරවූ සැදැහැති මිහිපලුත්පකාරෙහි මම්ද

සර්වප්‍රකාරයෙන් අනාගාමී වෙම්ද ; ඉදින් නියළිලවන්නාවූ
39 යුද්ධයෙහි පරශත්‍රූන් මර්දනය කොට ලෙව්සසුන් වැඩීම
40 කරන්නෙම්ද, මෙකල්හි මේ දළදාධාතූන්වහන්සේ මට
යහපත්වූ ප්‍රාතිහාර්යයක් දක්වන්නේනම් මැනවැ” යි කියා
නානාප්‍රකාරයෙන් සිතුයේය.

41 එකෙණෙහිම දංෂ්ට්‍රාධාතූන්වහන්සේ ඒ නරේශ්වරයාගේ
හස්තනාමැති පද්මයෙන් චන්ද්‍රරේඛාවක් පරිද්දෙන් අහසට
42 නැගී මනොඥවූ සර්වඥරූපය මවා සවණක්ගනරැස් විහි
දුවා සියලුපුරය බබුළුවා අද්භූතවූ ප්‍රාතිහාර්ය දක්වා නර
43 ශ්‍රෙෂ්ඨයා සතුටු කොට නැවත අහසින් බැස අවුදින් ඒ රජ
44 නන්ගේ අතෙහි පිහිටිසේක. ධාතූන්වහන්සේගේ ඒ අද්
භූතවූ ප්‍රාතිහාර්ය දැක අනුමොදන් වනනාවූ මහජනසමූහයා
45 විසින්ද මහසඞ්ඝයාවිසින්ද අධිකකොට කරණලද සාධු
කාර ශබ්දයෙන්හා සන්තොෂණයෙන් එකල්හි මුළුනුවර
සර්වප්‍රකාරයෙන් එකකොලාහල විය.

46 “ අද මාවිසින් ජීවිතය ලද්දේය අද මාගේ ජීවිතය උතුම්
විය. අහෝ අද මාගේ ජීවිතය මොනවට සඵලවූයේය, මා
47 ගේ පුණ්‍යබලය කරණකොටගෙණ අද මෙවැනිවූ ප්‍රාති
හාර්යයක් දැක මහජනයාවිසින්ද පුණ්‍යසම්පත්තිය රැස් කර
48 ණලද්දිය, මේ බුදුසස්නෙහි ගුණසමූහයෙන් යම්කෙණෙක්
49 ප්‍රසිද්ධයෝද ඒ පූර්වනරේන්ද්‍රයන් කෙරෙහි මම දැන් අනාන
ගීගතයෙමි ” මහත් සෘද්ධිඇති මහාපඬිතවූ මහරජතෙම
මහපිරිස්මැද මෙසේ කියා සිංහනාදය මනාකොට කෙ
ළෙසී.

50 ඒ මහීපතිතෙම ඔටුනුවලලු ආදිවූ සියලු සිවුසැටබරණින්
51 දළදාව පුදා ඒ මිණිකරඬුවෙහි සකස්කොට පිහිටුවා ඔප්
52 නැගූ ඒ කරඬුවද රන්කරඬුවෙහි බහා ඉක්බිති ඒ කරඬු
වද මාහැහි මනා කලද්‍රෝමුවා කරඬුවෙහි ආදරසහිතව
පිහිටෙවුයේය.

53 මෙසේ පිළිවෙළින් කරඬුතුණෙක්හි මනාකොට පිහිටුව
න ලද්දාවූ දළදාධාතූන්වහන්සේ නැවත ඒ සවකීය ධාතුභ
වනයෙහි පිහිටෙවූයේය. සත්දවසක් සප්තරත්නයෙන්හා
මාලාගන්ධයෙන්ද නානාවිධ ඛාද්‍යභොජ්‍යයෙන්ද ඒ රජතෙ
මේ පූජාත් කරවී.

මෙතෙකින් සුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
දළදාධාතුප්‍රාතිහාර්යදස්සනනම්වූ දෙඅසූවන අදියරනිමි.

# 83 වෙනි පරිච්ඡෙදය.

1 එකල්පටන් සියලුම ලඞ්කාවාසිජනයෝ ඒ රජහුගේ අධි
කවූ පින්බලය දැක උහුකෙරෙහි ගෞරවසහිතවද භයසහි
2 තවද ප්‍රමොදසහිතවද ස්නෙහසහිත වූවෝව හැසුරුණහ.
උහුගේ ආඥුවක් කිසිකලෙකත් උල්ලඞ්ඝනය කරණු නො
3 හැකිවූහ. ඒ රජහුගේ ප්‍රතාපානුරාගයෙන් නැමුනුසිත්
ඇත්තාවූ නානාදෙසවාසී රජදරුවෝ සියල්ලෝම පඬුරු
එවූහ.

4 හේතෙමේ හිසසිඳියයුතු ජනයා සිරගෙයි බැඳීම්පමණ
කින් දඬියේ නිග්‍රහ කොට නැවත උහු මිදුයේය. මිහිපති
5 තෙම දඟගෙට සුදුසුවූ ජනයන්ට යම්කිසි නිග්‍රහයක්
6 කොට කරුණාපරව අවවාද කෙළේය. මනුරජුහා සමවූ ඒ
මහීපතිතෙමේ රටින් නෙරපියයුතු ජනයන්ට වනාහි දඟ
7 සක්පමණ දඬනියම කෙළේය, හේතෙමේ දඬපැමිනවිය
යුතු සියලු ජනයා තිප්බලතෙන් නොයෙක් නිග්‍රහවචන
8 යෙන් සුවිනීත කෙළේසි— චිරවූ වෛරීන් මදීනය කළාවූ
තමන් පියරජනන්විසින් නොදිනියහැකි බවට ගියාවූ වන
9 දුග්ගාදිය ආශ්‍රයකොට විසූ සියල්ලන්ද ඒ නරෙන්ද්‍රතෙම තෙ
ජෝබලයෙන්ද එසේම මෛත්‍රීබලයෙන්ද ලඞ්කාවෙහි සතු
10 රන් බලය දීනන්ට ආරම්භද කෙළේය. සිංහාසනයෙහි වැ
ඩහුන්නේම සේනාවාහන සමන්විතවූ සිංහලවන්‍යරජුන්
සර්වප්‍රකාරයෙන් වසඟභාවයට ගෙණයේය.

11 ඒනරෙශ්වරතෙමේ ත්‍රිසිංහලගතවූ සිංහවික්‍රමාන්විතවූ සියල්
12 සිංහලයන් රැස් කරවා සතුටු කරවී. කඳවුරු බැඳ ඒ ඒ තැ
න නිවාසීවූ මහා ද්‍රවිඩයොධයන්ට නිග්‍රහ කරන්ට උත්සා
13 හ කෙළේය. යුදෙහි හැසිරෙණ සතුරු මතැතුන්ට සිංහ
යන් වැනිවූ සියලුම සන්නද්ධවූ සිංහලයන් ඒ ඒ තැන යැවී.
14 සිංහල මහායොධයෝ ගුරුළුන්සෙයින් ගමනය කොට
කොට සියලු ද්‍රවිඩයොධයන් නයින් සෙයින් පෙළූහ.

15 එකල්හි සංඛ්‍යාතින් ප්‍රසිද්ධවූ පූලසත්ථූරයෙහිද, කොටුසර
ගම්හිද, එසේම ගංතලාවෙහිද, කාකාලයගම්හිද, පදීරටද,
16 කුරුන්දියෙහිද, මානාමත්හිද, මාතොටද, එසේම මහානා
රම් පටුනෙහිද, පූලච්චේරිනම් තොටද, එසේම වැලිගමද
17 මහත්වූ ගෝනරටද, එසේම ගෝනුසුරටද, මීපාතොටද, එ

18 සේම භූරාතොටද, මේ ආදිතන්හි කඳවුරු බැඳ බලාත්කාර
19 කොටකොට බොහෝකල් වසනාවූ මාඝේන්ද්‍ර ජයබාහු
යන දෙමළ රජුන් දෙදෙනාගේ සතළිස් දහසක්වූ ඒ ද්‍රවිඩ
20 කේරළයොධයෝ කුන්තායුධගත් අත්ඇති සිංහලයොධයන්
21 විසින් දැඩියේ පෙළනලද්දාහු හිඳිනුනොහැකිව භයින් මඩ
නාලද්දාහු ඒ ඒ තැනින් පොළොන්නරුවට අවුත් මෙසේ ම
22 න්ත්‍රණය කළහ. "පරාක්‍රමබාහුරජතෙම මහා තෙදැත්තේම
හත් සෘද්ධිඇත්තේය උහුගේ ආඥව ඉක්මවන්ට පෘථිවියෙහි
23 කවරධීරයෙක්හෝ වන්නේද ? මේ කාලයෙහි දේශාන්තර
වාසී නරේන්ද්‍රයෝ පවා උහුගේම වසඟවූහ. සියලුම සිං
24 හලයෝ උහුගේම වසෙහි පවතිත්මය. අපගේ සමහර දෙ
මළුද උහුගේම සේවකයෝවෙති, අන්‍යයන්කෙරෙහි කියනු
25 කිම? කිමෙක්ද අපිවනාහි කුමක්කරමුද? දැන් සූර්‍ය්‍යාසේ
තෙදැති උහුගේ උදාවෙහි අපි සියල්ලෝම කද්‍යොපැණියන්
26 සෙයින් නිෂ්ප්‍රභාවූයෙමු——එහෙයින් සිංහලද්වීපයෙහි අප
ටවනාහි භවිෂ්‍යත්කාලයෙහි වාසයකරණු නොහැකෙක්
මය, දේශාන්තරයට යම්හ "යි (මන්ත්‍රණය කොට)

27 ඇතුන් අසුන්ද එසේම මාහැඟි මුතුමැණික්ද, එසේම
28 රජඹවුනුද සියලුම අන්තඃපුරස්ත්‍රීන්ද සියලු ආභරණයන්ද
පටසළුපෙට්ටිද අනිකුදු සියලු සාරයන් බියෙන් හැරගෙණ
29 හැරගෙණ එනුවරින් බැහැර යන්ට එකල ආරම්භ කළහ.
රජහුගේ පුණ්‍යානුභාවයෙන්ම ඔවුන්ට දිසාමුළා විය. ඒ එ
30 සේමය ඔව්හු නැගෙනහිරිපුරදොරයයි සිතා බටහිරිදොරින්
31 නික්ම යම්තැනෙක සිංහලසේනාතොමෝ කඳවුරු බැන්දා
ද ඒ කළාවැවට ගියහ. බෙදයනි ! ඔව්හු ඒ ස්වකීය වස්තූන්
32 සමග ස්වකීය ස්වකීය ජීවිතයද ඒ සිංහලයොධයන්ට දානය
කොට කොට මහරජනන්විසින් සිතනලද අර්ථයම තමන්
සිද්ධ කොට දුන්හ.

33 සියයක්පමණ රජුන් විසින් බියෙන් දමනලද්දාවූ සම්පත්
ලබනනාවූ මියුලුනුවර වැසසන් සෙයින් සියලුම සිංහලයෝ
34 ඔවුන්ගේ වස්තුසම්භාරය ගෙණ එකල්පටන් සමෘද්ධවූවෝ
35 පූර්වයෙහි යම්සේද එසේ වූහ. හේතෙමේ මෙසේ ආනුභාව
යෙන් පරසතුරන් මර්දනයකොට මුළුලක්දිව සමෘද්ධ කරව
න්ට ආරම්භ කෙළේය.

36 ඉක්බිත්තෙන් ඒ නරේන්ද්‍රයන්ගේ එකොළොස්වෙනි වස
පැමිනිකල්හි චන්ද්‍රභානුයයි ප්‍රසිද්ධවූ එකල ජාවක රට එක්
37 රජෙක්තෙම අපිද බෞද්ධයම්හයි මායා කොට කතීශවූ
38 ජනෙන් සමග ලක්දිව් බැස්සේය. හැමතොට බැස්සාවූ ඒ

දුෂ්ටවූ සියලු ජයොධයෝද දරුණු සර්පයන් වැනි විෂපෙවූ
39 හීයෙන් යම්ම දුටු දුටු ජනයෙක් නිරතුරු පෙළමින් ක්‍රොධ
යෙන් දුවමින් මුළුලක්දිව වැනසූහ. ගිනිහෙතින් විධ්වං
40 සනය කරණලද ස්ථානයක් දියහෙනින් සෙයින් මාඝරාජ
දින්විසින් පෙළනලද ලඞ්කාව ජවෝ නැවත පෙළූහ.
41 එකල්හි රජතෙමේ බෑනවූ නොපසුබට වීරබාහු මිහිපතිහු
42 යොධයන් සමග යුදපිණිස යැවූයේය. දරුණු වෙස්දරූ
බියකරුවූ විරබාහු නරෙන්ද්‍රනැමැති රාහුඅසුරතෙම යුඩභූමි
නැමැති ආකාශාගනයෙහි ඒ චන්ද්‍රභානුහු අත්‍යර්ථයෙන්
43 ප්‍රතිච්ඡන්න කෙළේය. හේතෙමේ විරවූ සිංහලයොධයන්
ඒ ඒ තන්හි යොදා ජවකයොධයන් සමග යුදකරණට පටන්
44 ගත. යුඩයෙහිදී ජයොධයන්විසින් වහවහා යන්ත්‍රයෙන්
45 මුදනලද බොහෝසෙයින් අභිමුඛව ආවාවූ විෂපෙවූ මුඛ
ඇති ශරයන් ලක්ෂ්‍යවෙධීවූ යම් ධනුර්ධර සිංහලමහායොධ
46 කෙණෙක්වූද ඔව්හු තීක්ෂ්ණමුඛඇති හීයෙන් කඩකඩ
කොට කැඩූහ. විරබා මිහිපතිතෙමේ යුදයට ගොස් රාම
47 රජහු සෙයින් බොහෝවූ ජවකයොධයන් රකුසන් මෙන් මැ
රූයේය. මහත් වෙගධරවූ වීරබාහු (නරෙන්ද්‍ර) නමැති වෙ
රම්ඹවාතයතෙම ජසතුරුනැමැති මහවනය නැවත නැව
ත භගන කෙළේය.

48 හේතෙමේ මෙ පරිද්දෙන්ම යුදකොට ජවුන් පලවා
සියලු ලඞ්කාපෘථිවිතලය පසම්තුරන් නැති කෙළේය.

49 පසුව දෙව්නුවර ගොස් උපුල්වන් දෙවයා වැඳ එතන්හි ඒ
50 දෙව්රජහට දෙවපූජා කරවිය. ඒ නරෙන්ද්‍රතෙම එහි සාඛි
ක පිරිවෙණක් තමන්ම කරවූයේය. එය ජනයා සන්තුටුකරණ
51 බැවින් නන්දනනම් විය. එතැනින් නැවත දඹදෙණි පුරයට
ආයේ පරාක්‍රමබාහුනරෙන්ද්‍රයන් දැක්කේය. ඒ පරාක්‍රමබාහු
රජතෙමේද අත්‍යර්ථයෙන් ප්‍රීතියට පැමිනියේය.

52 පරාක්‍රමබාහුමහීපතිතෙම එකල්හි මෙසේ නානාප්‍රකාරවූ
මහායුඩ කොට බිය එලවනනාවූ සියලු ශත්‍රුසමූහයා පහ
කොට විසාලවූ තෙජසින්යුක්තවූයේ විජයශ්‍රිය ලද්දේය.

මෙතෙකින් භූදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවිස
වෙරිරාජවිජයනිද්දෙසනම්වූ අසූතුන්වන අදියර නිමි.

# 84 වෙනි පරිච්ඡේදය.

---

1 ඉක්බිති මනුනීතියෙහි දක්‍ෂවූ ඒ රජතෙමේ පරසතුරන්
2 විසින් බොහෝ කාලයක් කොල්ලකනලද කුලප්‍රවේණී අ
3 යත් ගම්කෙත් ගෙවල් ආදිය ඒ ඒ හිමියන්ට වෙන් කරවා
4 පිළිවෙළින් දෙවිය. නැවතද ඒ තෙමේ එසේම බුදුන් දහම්
අයත්වූ ගම් අරම් ආදින්ද කැපවූ පසගම්ද ගණසතු ගම්ද
5 එසේම පුද්ගලික ගම්ද අෂ්ටායතනය අයත් ගම්ද පිරිවෙන්
අයත් ගම්ද නියම කරවා දෙවි. එසේම ඒ තෙමේ රජකුල
6 අයත් පච ප්‍රෙෂ්‍යවර්ගීයන්ද දශප්‍රෙෂ්‍යවර්ගීයන්ද නියම කරවා
තැබීය. ඒ රජතෙමේ ලක්වැසි සියලු ජනයන් ආඪ්‍යමහා
7 ධනවතුන් කොට සියලු රට සුභික්‍ෂ කරවී—වැලිදු ඒ තෙ
මේ අන් රජුන් පටන් සියසඳසේ වසනනාවූ මිථ්‍යාජීවයට පැ
8 මිනි අනවරතයෙන් නොසන් හූන් ඉදුරන්ඇති සියලු අල
9 ජ්ජී සමූහයා මොනවට එක්කොට බැහැරලා සම්මාසම්බුදුන්
සස්නද පිරිසිදු කරවී—තවද ඒ රජතෙමේ බොහෝ පඬු
10 රු සො ළිමහ රට යවා මනාසිල්හා ආචාරයෙන් යුක්තවූ පිට
කතුය ධාරීවූ පසිඳු සොළී භික්‍ෂූන් ගෙන්වා තාම්‍රපර්ණී
යෙහි උභයශාසනය සමගි කරවී.

11 නැවත ඒ තෙමේ තඹරට අනවරතයෙන් වසනනාවූ
නොයෙක් ලජ්ජීභික්‍ෂූන් අතුරෙන් ධර්මකීර්තියයි ප්‍රසිඬවූ
12 සිල්තෙදින් බබලනනාවූ එක් මහතෙරකෙනෙක් ඇති, පිඬු
පිණ්ස වඩනා ඒ තෙරුන්ගේ ඉදිරියෙහිමග තිසිකලෙක
13 පියුමෙක් පහළවියයි විස්මිතකරණලදුව දළදාවෙන් සපශී
කරණලද්දාවූ සුවඳ සඳුන් කලල්ආදිවූ දහම් පඬුරුද එසේ
14 ම උත්කෘෂ්ටවූ රජපඬුරුද තඹරට යවා මිහිපල්තෙමේ ඒ
15 මහතෙරුන් ලක්දිව් වැඩමවා රහත්කෙනෙකුන් සෙයින්
16 දක්නේ නැවත නැවත සතුටුවෙමින් උන්වහන්සේට මහ
පූජා කොට පූජාසත්කාර භාජනවූ ඒ තෙරහු සිවුපසඳනයෙ
න් සකසා උවටන් කෙළේය.

17 මහරජතෙමේ තමාවිසින්ම වඩනලද්දාවූ ශාසනයාගේ
මනාරක්‍ෂණය කරණු කැමැත්තේ රාජධානිය හාත්පසින්
18 අෂ්ටායතනවාසීවූ මහතෙරුන් අටදෙනාගේද ගම්වැසි අ
19 රම්වැසි සමෘතිමත් තෙරුන්ගේද නිවාසයට යොග්‍යවූ
විසල් නත්පහයෙන් හෙබියාවූ නානාමඬපයෙන් යුක්තවූ

20 නානාපුෂ්කරණීන් යුක්තවූද රාත්‍රිස්ථාන දිවාස්ථාන චඞ්ක්‍ර
මණ ශාලායෙන් හෙබියාවූද මල්වතු පොල්වතු පන්තීන් පි
21 රිවරණලද්දාවූද බොහෝ සඞ්ඝාරාමයන් කොට උන්වහන්
සෙලාට දී පසුවත් සියලු පිරිකරින් මහා පූජාද කරවී.

22 පසුව රජතෙමේ ග්‍රාමාරණ්‍යවාසීවූ මහසඞ්ඝයා රැස් කොට
23 එයින් නිතොර සීලශුද්ධිය සොයනනාවූ යමෙක් ධූතඟධර
වූවෝ රූක්ෂප්‍රතිපත්තියෙහි විසාරදයෝද ආජීවාදි ගුණයු
24 ක්තද ලජ්ජිධර්මයෙහි පිහිටියෝද ඒ සියල්ලන් පළාබද්ගල
රැස් කරවා අරණ්‍යවාසයක් කරවා උන්වහන්සෙලාට දී උප
25 ස්ථාන කෙළේයි. මහාරුක්ෂ පිළිවෙත් පුරණ උන්වහන්සේ
ලා ලවා ඒතෙමේ තමන්ගේ කාලයෙහි ලඞ්කාව රහතුන්
26 ඇත්තාසේ කෙළේයි.—ඉක්බිති මේ ද්වීපයෙහි ආගමධර
27 ස්ථවිරයෝ තුනියසි සියලුම පොත් දඹදිවින් ගෙන්වා ආගම
යන්හිද එසේම සියලු තර්කව්‍යාකරණාදියෙහිද බොහෝ භි
28 ක්ෂූන් හික්මවා විචක්ෂණ කරවී, මෙසේ පිළිවෙත්ද පයෂා
පතියද වඩමින් මනානුවනැති (රජතෙමේ) ඒ පූජාවෙන්
29 හා ශ්‍රද්ධාවෙන් බුදුන් පිදී.—ඒ රජතෙමේ භුවනෙකබාහු
30 නම්වූ තමා මල්රජනු පිටකත්‍රයෙහි හික්මවා විසාරද කරවා
උභුලවාම ස්ථවිරධර්මය දෙසනා කරවා අසනනාවූ බොහෝ
31 භික්ෂූන්ට මහසඟමැදයෙහි ථෙරසම්මුති දෙවා සියලු පිරි
කරදී ථෙරපූජාද කරවී.

32 අටඟ අරීමගින් මහාසංසාරසාගරයෙන් පරතෙර යන්ට
33 හෙතුවූ පුණ්‍යසම්පදාව සොයමින් තමන්ගේ (අභිෂෙකයෙ
න්) තෙවැනෙපාභිය, සවැනෙනාභිය, එසේම එකොළොස්
34 වැනෙනාභිය, එසේම දොළොස්වැනෙනාභිය, සතළොස්වැනි
වර්ෂයෙහිය, එක් විසිවැනෙනාභිය, සත්විසි වැනෙනාභිය, එ
35 සේම තිස්වැනෙනාභියයි මෙසේ අටවරෙක සැටක් වැම්ඇති
36 මහගෙයක් කරවා ඒ හාත්පසද උතුම් මහ මඩුවක් නිමවා
නැවිත එය විසිතුරුනන්වතින් සාලඞ්කාරකොට එහි බො
37 හෝ භික්ෂුසමූහයන් පත්තින් වඩාහිඳුවා ආදරසහිතවූයේම
දවසක් දවසක් පාසා සියනමින් මහාපූජා සත්කාර පවත්ව
38 මින් හෙරණ පැවිදි බොහෝ දෙනාට උපසම්පදා දෙවා පසු
ව තෙර (පදවිය) මහතෙර (පදවිය) ආයතන (පදවිය) යනා
39 දිවූ උතුම් තනතුරුද භික්ෂූන්ට දෙවා ඊට අනතුරුව මා
හැභි බොහෝ ගරුභාණ්ඩයන්ද එසේම බොහෝවූ යහපත්
40 පරිෂ්කාරයන්ද හස්තිරාජප්‍රමාණයෙන් රැස්කොට මහතෙර
(පදවි) විහාර පදවි ලද්දන්ට පළමුකොට රාජාහීපරිෂ්කාර
41 දෙවා පසුව සියලු ස්ථවිර නිසමුත්හා ආදිවූ භික්ෂූන්ට මිශි

පල්තෙමේ පිළිවෙළින් අටපිරිකර දුන්නේය.—මෙසේ
42 උතුම්වූ අෂ්ටඋපසම්පත්ති මහාමඟලය; නරොත්තම රජ
තෙමේ සත්සත් දින බැගින් පැවැත්වී. පසුවත් හේතෙ
43 මේ බොහෝවර උපසම්පදා මඟලය කරවා බුදුසස්න සමෘ
ඞකරවී,

44 මෙසේ ඒ රජතෙමේ නානාප්‍රකාර උපකාර කෙරෙමින් අමෘතරශ්මීහු සාගරය සෙයින් සද්ධර්මරාජන්වූ තථාගතයන් ගේ සස්න මොනවට වර්ධනය කෙළේයි.

මෙතෙකින් සුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහාවංශ සාසනොපකාරකරණනම්වූ අසූසතරවන අදියර නිමි.

---

# 85 වෙනි පරිච්ඡෙදය.

---

1 පසුව ඒ රජතෙමේ සශ්‍රීකවූ නගරශ්‍රෙෂ්ඨවූ තමන් උපන්
2 සිරිවඩ්ඪනනම් අතුල්‍ය නුවර පහමඩුවෙන් යුක්තවූ තුඟු
පව්රුහා තොරන්ඇති බොධිචෛත්‍යාරාමප්‍රතිමාගෘහයෙන්
3 සැදුම්ලද නන්විසිතුරුකමින් යුක්තවූ ගුහගෘහයෙන්
හොබවනලද විශාල සම්පත්ඇති මහවෙහෙරක් කරවී.
4 පසුව දඹදෙණිනුවරපටන් ශ්‍රීවර්ධනනුවරතෙක් දිග පුළු
ලින් අට යොදුන්හා ඉස්බක්පමණවූ බෙරඇසක්සේ සම
5 කළාවූ තලාඇති මනොහරවූ නොකඩව විසුරුවනලද
6 මොලොක් සුදුවැලිඇති ඔසවනලද හිරුරැස් මුවහකළ
7 නොයෙක් ධජපතාකාවෙන්හා කෙසෙල්ගස්පෙළින් යුක්තවූ
පුෂ්පාලඞ්කාර දරනනාවූ චිත්‍රකර්මයෙන් මනොඥවූ අනෙක
8 පූර්ණකුම්භයන්විසින් උභයපාර්ශ්වයෙහි අලඞ්කාර කළාවූ
මේ විශාලාවකාශයෙහි අතරතුර පස්රියන් අයම් තැන එකි
9 එකී රජතොරණය දශරියන් අයම් තැනෙක එකි එකී පට
තොරණය සියක්රියන් අයම්තැන විසිතුරුවූ සිත්තමින්
10 නිමියාවූ තුඟුකැරලිඇති තුන්මහල්වූ බුදුපිළිමයෙන් යුක්ත
වූ මහපහ එකක් එකක් බැගින්ද නරශ්‍රෙෂ්ඨවූ රජතෙමේ
කරවිය.

11 පසුව වෙහෙර පව්රු මඬුලු හාත්පස මහත්වූ අනෙකවූ
12 සිත්‍රාතමින් මනහර සුරාඞ්ගනාගේ චාපළීලාවට අපහාස
කරනනාවූ තොරණින්ද සුපුන්සඳ මඬුලු බඳු ජේසතින්ද
13 ආකාශාඞ්ගනයෙහි නටන දිව්‍යනාටකයන්බඳු මනහරවූ නා
14 නා රූපධරවූ පස්පැහැදෙදෙන්ද දෙව්ලොවින් ආවාවූ නො
යෙක් විමන්පෙළබඳු කාන්තිඇති අනවරතයෙන් බබලන්
15 නාවූ මිණිමඬුපෙළින්ද ජේසත්ගෙණ පෙළ සැදී නටන්
නාවූ යන්ත්‍රයෙන් නිමවනලද මනහරවූ බඹරූවලලෙලන්ද
16 හිසඇදිලි බැඳගෙණ සකසා හැසිරෙනනාවූ නන්වන්
දරණ යන්ත්‍රරූපයෙන් කළාවූ දෙව රූපයෙන්ද මහසමු
17 දුර මොනවට නැංගාවූ රළමාලාබඳු කාන්තිඇති ඒ ඒ තැ
න දුවනනාවූ යන්ත්‍රයෙන් කරණලද අස්රූවලලෙලන්ද
18 පොළෝතෙලබටුවාවූ වලාවෝඝ්‍යෙසි සැකඋපදවනනාවූ ග
ජාලඞ්කාරධරවූ යන්ත්‍රරූ ඇතුන්ගෙන්ද යන මේ ආදීවූ
19 ලොකානන්දකරවූ නන්වැදෑරුම් සියලු පූජාවස්තුවෙන් වෙ
හෙර මොනවට අලඞ්කාර කෙළේය.

20 නැවතත් ඒ මේ වෙහෙරින් බැහැර හාත්පස ගවු ගවු
21 තැන් අනවකාසව පිරීගෙණ සිටිනට ලක්දිව්වැසි සාධු
22 නාද පවත්වන සම්බුදුන්ගුණ කියනනාවූ බුදුමගුල්කටයුතු
පූදමල්ආදිය දරනනාවූ භික්ෂුසාමණේරයන්හා එසේම උ
23 පාසිකා උපාසකයන්ද පූජාවස්තු ඔසවාගත්තාවූ සියලු අල
ඞ්කාරයෙන් හෙබියාවූ අන්‍යවූ සියලු නරනාරීන්ද සියල්ල
24 න් නියොග කෙළේසි—පසුව මිහිපල්තෙමේත් සියලු අබ
රණින් සැරසුනේ සිවුරඟසෙන්සමග සැදැහැයෙන් මෙ
25 හෙයනලද්දේ සියලු රථාලඞ්කාරයෙන් සරහනලද මාහැඟි
රථයක ඒ දළදා පාදදෙදෙනාවහන්සේලා නගා පසුව රන්
26 කොඩිය එසේම රිදිකොඩිය රන්කලස්ය එසේම මනාවූ රිදී
කලස්ය රන්සෙමෙරය රිදී සෙමෙරය එසේම රන්කරඬුය
27 රිදිකරඬුය එසේම මනොහරවූ රන්විජිනිය රිදිවිජිනිය රන්
පොකුණුහා එසේම රිදිපොකුණුය රණින් නිමන ලද්දාවූ
28 ද රිදියෙන් නිමනලද්දාවූද පූන්කලස යනමේ ආදිවූ නා
නාවිධ පූජාභාණ්ඩයන් පෙරටුකොට ඒ මිනිසුන්ලවා පඞ්ක්තීන්
29 පිටත්කරවා එකල්හි හේතෙමේ පසුසස්සෙහි පඤ්චතූර්‍ය්‍යාඞ්ග
30 ධවනියෙන්ද මහපූදකරවමින් අලඞ්කෘත ඒ වීථියෙන් ක්‍ර
31 මයෙන් ශ්‍රීවර්‍ධනනම් නුවරට වඩාගෙණ ගොස් ඒ වෙහෙර
32 මැද මහත් මිණිමඬුවෙක පණවනලද බුද්ධාසනයෙක්හි
සාදරයෙන් (ඒ ධාතුවය) වඩාහිඳුවා ඒ ඒ මිනිසුන්ලවා පූජා
කරවන්ට ආරම්භ කෙළේය.

33 එකල පින්සොඬ සියලුජනයෝ ආභරණයෙන් සැරසුනෝ
පෙරවරුහි දළඳා වහන්සේහා පාදාවහන්සේ රන්මල්හා
34 මිශ්‍රවූ වර්ණගන්ධාදියෙන් හොබනා දෑසමන් සපු නා ආදිවූ
35 පුෂ්පරාශීන් භක්තියෙන් පිදූහ — බොහෝ කලක් ගෙණ
එනලද මහරජු යසෝරාසිවිලාසඇති සුවඳහැල්බත් සම්බන්
36 ධිවූ බොහෝ රාසියෙන්ද පිදූහ. මොනවට විලිකුන් සුවඳ
ඇති යහපත්වර්ණයෙන්යුක්ත ඉතාමිහිරිවූ කෙසෙල් පනා
37 අඹආදි ඵලවර්ගයෙන් පිදූහ. ඉක්බිති රජතෙමේ මෙසේම
උතුම් ධාතුවය නානාවිධපූජායෙන් පූජාකොට ඉන්පසු ප්‍රණී
38 තාහාරපානයෙන්ද ඛාද්‍ය භොජ්‍යයෙන්ද එසේම ලෙය්‍යපෙ
ය්‍යයෙන්ද සාදරයෙන් භික්ෂුසඞ්ඝයාද උපස්ථාන කෙළේ
39 සි — පසුව ඒ මිහිපල්තෙමේ එකල්හි ඉතා සතුටුසිත් ඇත්
තේ නොයෙක් සියගණන් භික්ෂූන්ට අටපිරිකර දුන්නේසි.
40 පසුව ඒ තෙමේ තුන්සම්රැය වෙහෙරවටා සුවඳ තෙලින්
41 දල්වනලද පහන් ලක්ෂකෙළගණනින් මනොහරවූ යොද
නලද නොයෙක් කපුරුපහන්මාලාවෙන්ද තරුනැගිඅහස
සෙයින් සියලු පොළෝතෙල අලුකෙළේය.

42 ඒ ඒ තැන උතුම් රඟමඩුලු බැඳගෙණ නානාආකාරගෙ
43 ණ නොයෙක් නැටුම් පවත්වනනාවූ නැට්ටුවන්ගේද නන්
ගී ගයනනාවුන්ගේද නන්වැදෑරුම් නැටුමෙන්හා මිහිරි ගී
44 යෙන් සිත්කළුවූ පාරාවාරයාගේ ආරාවය දුරුකෙරීමෙහි
පණ්ඩිතවූද ලජ්ජාකරණලද නොයෙක් මෙඝගර්ජනාඩම්බර
45 ඇත්තාවූද සියපින් මහමුහුද හඬසලාබඳු පසඟතුරුරැ
46 වින් වඩනාලද්දාවූ — සැදැහැත්තවුන් විසින් සාදරයෙන්
ඒ ඒ තැනපනවනලද විසිතුරුවිජිනි ගෙණ බණඅස්නේ
47 හිඳ දහම් දෙසනනාවූ ධර්මකථිකයන්ගේහා හෘදයගම
48 කොට අසනනාවුන්ගේ දහම්ගොසින් හෙබියාවූද — බුදුහු
ආශ්චර්ය්‍යය ධර්මය ආශ්චර්ය්‍යය සඞ්ඝයා ආශ්චර්ය්‍යයයි කියමින් නි
49 රන්තරයෙන් සාධුනාද පෙරටුකොට තුණුරුවන් ගුණකියා
50 ගෙණ අනුමොදනා කොට කොට ඒ ඒ තැන ඇවිදින්නාවූ
සිවුවණක් පර්ෂද්හුගේ සාධුනාදයෙන් හෙබියාවූද — ඒ
ඒ දිග නිරතුරුසිටිමින් ආනන්දජනකවිධානයෙන් පිහිටුවූ
51 බුද්ධශාන්තිකරනනාවූ නන්අබරණ දරනනාවූ බලිභොජක
ජ්‍යෙෂ්ඨයන්විසින් පසස්නාලද්දාවූද බුදුපූද මිහිපල්තෙමේ
පැවැත්වී.

52 මිහිපල්තෙමේ දෙව්ලොව සුරෙන්ද්‍රතෙමේත් බුදුපූද මෙ
53 සේ කෙරේයයි ඒමෙහිදු දක්වනනාක්සෙයින්ද ලක්දිව් නා
යක මහඝීඇති පෙර රජදරුවෝත් මෙසේම බුදුපූදකළහයි

54 එය එසේම සිංහලවාසීන්ට දක්වනානාසෙයින්ද සර්වඥයන්
55 ගේ පාරම්කැළැලනායෙහි ඵල මෙබදුයයි සියලු මිනිසුන්ට
කියන්නක්හු සෙයින්ද මෙබඳුවූ තුන්රුවන් මහපුද සතියක්
56 පැවැත්වී―පසුව ඒතෙමේ ඒ මහවෙහෙර සාඞ්ඝික කො
ට මහසඟනට දී පින්හා කිත් පිරූයේය.

57 ඉක්බිති රජතෙමේ සියනමින් පරාක්‍රමබාහුනම්වූ තුඟුපහ
58 යෙන් හෙබියාවූ පිරිවෙණක් කරවා නානාකප්පිය භාඩහා
59 බොහෝ අයඋපදනා ගම්වරද ඒ වෙහෙරට දී මහාපූජත්
කරවීය―ඒ රජතෙමේ සියනමින්ම තමන් යුවරජුලවා
60 බෙලිගල්වෙහෙර භුවනෙකබාහු නම්වූ ප්‍රාසාද මණ්ඩපාදී
61 යෙන් හෙබියාවූ පිරිවෙණක් කරවා ඒ ශ්‍රීවර්ධනනම් පුරයෙහි
නි ක්‍රමයෙන් සියලු පූජාවස්තුවෙන් ආදරසහිතව සත්දව
62 සක් තුණුරුවනට මහපූජා පැවැත්වී―නැවතද ඒ රජ
තෙමේ ඒ සෙනෙවිරදුන්ලවාම ගඞ්ගශෛලපූරවරයෙහි
63 සියනමින්ම මහවෙහෙරක් කරවා පසුව එම නමින්ම සිත්
කළුවූ මහමිහිඳුබානම් පිරිවෙණක් කරවා මහාපූජා කොට
පින් රැස් කෙළේය.

64 යටාලතිස් රජහුවිසින් උතුම් කැලණිනුවර පූර්වකාලයෙ
65 හි කරණලද දිරාගිය පස්බුමු පහය බොහෝකොට ජීර්ණ
විශොධනය කරවා පසුව සුණුකම් විධානයෙන් නැවත ප්‍රකෘ
66 තිවත් කෙළේය. එහිම මුනිරජහු ඔත්පිළිමගෙයද එසේම
67 ත්‍රිවඞ්කපිළිමගෙයද නැවත සකස් කෙළේය―
68 මිහිපල්තෙමේ ඒ කැලණිපුරයෙහිම දිගුපුළුල්සතරැස් ඒ
මහසැමළුව මහත් ගලින් මොනවට සමතලා කොට වස්වා
69 ඉන්පසු ඒ ඉදිරියෙහිම මහමඩුවකුත් මොනවට කරවී―
ඉක්බිති මහත් භක්ති ඇති මිහිපල්තෙමේ එම වෙහෙර නො
70 යෙක්වර සතුටුකරණලද මහජනයා ඇති අලාමක නො
යෙක් මල්පහන් බත් පූජායෙන්ද බොධි චෛත්‍ය සම්බුඩ
71 පූජා කොට පින් ලද්දේයි. පසුවද ඒ රජතෙමේ ඒ විහාරයට
72 දවස්පතා පහන්පූජා පැවැත්මපිණිස ඊට ආසන්නපෙදෙස
මනොරම්‍යවූ සශ්‍රීකම්හපොල් උයනක් සියනමින් කරවා
දෙවීය.

73 ඉක්බිති රාජෙන්ද්‍රනාමවූ මිහිපල්තෙමේ අත්තනගලුනම් වි
හාරයෙහි ඒ සිරිසඟබෝ රජතෙමේ යම්තැනෙක දිළින්
74 දහට ශීර්ෂදානය දුන්නේද එකල්හි එතැන ගොළුඅබානම්
මිහිපල්හු විසින් දෙමහල්ඇති යම් වටදාගෙයක් කරණ
75 ලදද එය තුඟු රන්කොත්කැරලි ඇති තෙමහල් කොට නැ
76 වත කරවී―එම අත්තනගලුවෙහෙර තමා පියරජහුගේ

ශරීරනික්ෂෙපස්ථානයෙහි උතුම් සෑයක් කරවිය. එහිම
77 නැවත අටැස් පිළිමගෙයක් කරවා එහි සෙල්මුවා සම්බුදු
පිළිමයක් තැබ්බවී.

78 සුගත්ලෝනාසම්බුදුන් ජීවමානකල එම බුදුහුගේ උතුම්
79 මහාපාංශුකූලචීවරය දූසාදයද ලැබ උන්වහන්සේගේ ඇ
වෑමෙන් යමෙක්තෙමේ ධර්‍මරාජ්‍යයගෙණ පරිපාලනය
80 කෙළේද සම්බුඩ පුත්‍රවූ ඒ මහසුප්තෙරහුගේ එක් දළදාවක්
81 පූර්‍වයෙහි කාලක්‍රමයෙන්ම ලක්දිව් පැමිනියා පස්යොදුන්රට
බෙන්තොට විහාරයෙහි දැනුදු සිටිනේය යනු අසා මහාධන
82 සය ඇති ඒ රජතෙමේ ඒ තෙරුන්කෙරෙහි හටගත් බැති
පෙම්හා ඉතා ගෞරව ඇතිව සිවුරඟසෙනාගින් පිරිවරණ
83 ලද්දේ ඒ මහාවිහාරයට ගොස් එහි ඒ උතුම්දළදාව දැක ම
නොඇවූ සුවඳඇති අනන්තමල්වර්ගයෙන්ද එසේම පහනි
84 න්හා දුම්න්ද බත්රුසින්ද තෙදිනක් සාදරයෙන් සතුටු
වෙමින් ධාතුපූජා පැවැත්වී.

85 ඉත්බිති "ජූර්ණකරවූ දෙවනගරද්‍වරය දැන් උපුල්වන්
86 දෙව්නම් දිව්‍යරාජයාගේ මන්‍දිරය බොහෝකලකදී කරණ
ලද්දේ හාත්පසින් දිරණලද්දේ වෙයි" මිහිපල්තෙමේ මෙ
87 සේ අසා ඒ උතුම් නුවරට ගොස් එහි දිව්‍යරාජභවනය ශක්‍ර
භවනය සෙයින් අළුත්කොට මොනවට කරවා සර්‍වභොග
88 යන්ගේ ගෘහයක් කෙළේය——ඉක්බිති නරොත්තමතෙමේ
ඒ නුවර දෙව්නුවරසෙයින් සොඳුරුවූ සියලු සම්පතින් සම්
89 පූර්ණ කරවී. පසුව ඒ නුවර ඒ දිව්‍යරාජයාට අව්රුදුපතා
ඇසළ පෙළහර පවත්වන්ටත් නියොග කෙළේය.

90 ඉක්බිති මහරජතෙමේ ජම්බුද්‍රෝණිපුරොත්තමයටම පෙර
ලා අවුත් පියරජහුවිසින් කරණලද සිරිවිජයසුන්‍දරනම්වූ
91 විහාරය හාත්පස උත්තුඞ්ගප්‍රාකාරගොපුරයන් කරවා පසුව
එහි තෙමහල්දාගෙයක් අභිනව කොට කරවා එහි මහර්ෂි
92 හුගේ දන්තධාතුව මාහැඟි උස් පලඟෙක වඩාහිඳුවා සිය
93 ලු සම්පත් සිඩකරනානාවූ තුණුරුවන් විෂයෙහි මහාපූජාවක්
පෙරකී ක්‍රමයෙන්ම සත්දිනක් පැවැත්වී.

94 ජීවමාන ශාස්තෘහුගේ රූපය බඳවූ සිත්කළුවූ එක්සුගත්
95 රුවක් දවස්පතා දක්නා කැමති ඒ නරශ්‍රෙෂ්ඨතෙමේ නන්
රුවනින් යුත් මහ රුවන්සක්මන සක්මන්කරනනාවූ ජීව
96 මාන භගවත්හු බඳු අතුල්‍යවූ බුදුරුවක් මහත් චිත්‍රවස්ත්‍රයෙ
97 ක පටුතරනොයෙක් චිත්‍රකාරයන්ලවා ලියවිය පසුව මහා
98 යසස්ඇති ඒ රජතෙමේ ලක්දිව්වැසි සියලු භික්‍ෂු සඞ්ඝයාද
මහජනයාද එක්කොට පූර්‍වයෙහි ශ්‍රිවර්ධන නගරයෙහි උ

ස්ත්‍රප්‍රකාරයෙන් මහත් බුදුපෙළහරක් සත්දිනක් පැවැත්වී

99 ඉක්බිති කඨිනදානයෙහි අනුසස් අචින්ත්‍යයයි අසා පහන්
සිත්ඇති මහරජතෙමේ එකල්හි “ පරතෙරනැති බියකරු
100 සසර මහමුහුද (තරණයට) එක්හෙයක් බඳුවූ භූලෝවැස්
සාවිසින් සත්කාර කරණලද සකකුලට එක් කෙහෙලිබඳුවූ
101 මුනිරජන්වූ ශාස්තෘවූ ලොකාචාර්යවූ ඍෂිවූ වශීවූ ලොකබ
න්ධුවූ ලෝවැස්සානැවූ සූර්‍ය්‍යබන්ධුහුගේ මහානුභාවසම්පන්න
102 අසූ මහසව්වන් උදෙසා මමවූකලී උතුම් අසූ මහාකඨින
යක් දෙන්නෙමැ ” යි මෙසේ සිතා නුවනැත්තේ ලක්දිව්වැ
103 සි සියලු නරනාරීජනයා රැස්කොට ඒ සියල්ලන් ලවා කපුස
කස්කෙරීම් ආදි සියලු සිවුරුකර්මාන්තයන්ද වහා එක් දව
104 සින්ම කොට නිමවමින් කැප සියලු ගරුභාණ්ඩයන්විසින් පිරි
වරණලද අසූ කඨිනයක් ඒ තෙමේදෙවී. දන්දීමෙහි විසා
105 රදවූයේ ඒ සියල්ල සම්පාදනය කරවා තාම්‍රපර්ණිදිවයින්
106 වැසි සියලු තෙරුන්ට දී අසූමහසව්වන්වහන්සෙලාට වෙන්
107 වෙන් කොට එ දවස්හිම අසූ මහපූදක්ද කරවී. මෙසේම
108 නොයෙක්වර ඒ තෙමේ බොහෝ කඨිනයන් මහසඟනට
දී මහපින් වැඩූයේයි.

109 ඉක්බිති ඉතා ප්‍රසන්නතර අදහස්ඇති ඒ රජතෙමේ නො
110 යෙක්වර ලක්රජයෙන් සම්බුදුන් පුදමැයි සිතා තමාගේ රාජ
භවනය දෙවේන්ද්‍රභවනය සෙයින් සරහා පුරයද දෙව්පුරය
111 සෙයින් සකස් කොට සඳ පසුව ඒ ගෙහි මාහැඟි සිංහාසන
යෙහි මහර්ෂිහුගේ දළදාස්වාමින්වහන්සේ වඩාහිඳුවා නො
112 යෙක් සෙමෙරින්සහ සැතින්ද නොයෙක් රුවන් ඔටුනෙන
113 න්ද නන්අබරණවතින්ද නන්රුවන්රැසින්ද තනා ඇතුන්
හා අසුන්ගෙන්ද නොයෙක් පදිකසෙනාහා රථයෙන්ද
නොයෙක් බෙරහඬින්හා නොයෙක් සක්හඬින්ද නොයෙක්
114 ධජපතාකාහා නොයෙක් කදලිපඞ්ක්තියෙන්ද නොයෙක්
කිරිබදනින්හා නොයෙක් පුෂ්පවෘෂ්ටියෙන්ද ඉතා අගනා
115 ගඳමලින්හා ඉතා අගනා සිව්ගෙසින්ද ඉතා අගනා රසවත්
බතින්ද ඉතා අගනා අවුළුජතියෙන්ද ඉතා අගනා පහන්
116 දුම්හා ගඳින්ද මේ ආදි රාජාර්හවූ නොයෙක් වර්ගයෙහි
117 සියලු වස්තුවෙන් සාදර (කොට) ලක්දිව්වැසි මහභික්ෂුසඞ්
ඝයා කැටිකොට සත්සතියක් මහපූද පැවැත්වී.

118 ඉක්බිති රාජශ්‍රෙෂ්ඨතෙමේ චතුරඟබලසෙනාහා පව්සිළුමි
119 ණි සමන්කුළට ගොස් එහි දෙවාතිදෙවවූ ධර්මරාජන්වූ ශා
ස්තෲන්වහන්සේගේ දිවකදින්විසින් වැන්දසුතුවූ ඒ පදලකු
120 ණ වැඳ ඒ ගිර හාත්පස දශගවුපමණතැන් නන්රුවනින්

121 සුපුන් නරනාරීන්ගෙන් ගහනවූ දනව්ව භක්තියෙන් ඒ ශ්‍රීපාදයට පුද නැවතත් එය රුවන්අබරණින්ද පිදීය.

122 මෙසේ බුදුන්කෙරෙහි සැදැහැඇති නුවනැති රජතෙමේ සසර කතර තරණයෙහි හෙයක්බඳුවූද සෙසු දෙව්ලොවට නැගෙන හිණිබඳුවූද උස්උස් පින් රැස් කෙළේය.

මෙතෙකින් සුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස විවිධකුසලකරණනම්වූ අසූපස්වැනි අදියර නිමි.

# 86 වෙනි පරිච්ඡේදය.

1 පසුව (රජතෙමේ) "සියලු ලක්දිවරජය අනුශාසනා කරණ මට ඒ ඒ තැන හැසිර සාදරයෙන් සිඩ්ඪස්ථානයන් වැද
2 රිසිවූ පරිද්දෙන් දවසක් දවසක් පාසා පින් කරන්ටත් ලොකොපකාර කරන්ටත් සර්වප්‍රකාරයෙන් බරමැයි මාගේ
3 අදහසට එකගව පින් රැස් කරන්ටත් ලොකොපකාර කරන්ටත් කවර ඇමතියෙක්තෙමේ සමර්ථද්‍යේ (යි සිතා) දෙවප්‍රති
4 රාජනම්වූ මාගේ මේ ඇමතිතෙමේ බුදුන්කෙරෙහිද ධර්මයෙහිද සඞ්ඝයාකෙරෙහිද සුපහන්වූයේ දැන් පවතියි බුදු
5 බව පතා ඉටන්කරනනාවූ මොහුවිසින් හිඳුවනලද ඒ පොල් එලයෙහි එකල තුන්ඇස්සෙන් පොල්පැල තුණක් නැංගා
6 ස, කරුණාපර මේතෙමේ ඒ එක්දිළින්දෙකු දැක තමා අඹු
7 දරුවන්හා සියලු සංඥත උහුට දී 'මම බුදුවන්නෙම්' යි පැතීය. එහෙයින් මේතෙමේ මා අදහස් ඇඳින සම්පූර්ණ
8 කරන්නේය" මෙසේ සිතා උහු කැඳවා මේ මතු දක්වන ආකාරය කීයේය.
9 (මෙරමා) "වසෙහි පවත්වන අනිෂ්ටමාරයාවිසින් මවනලද්ද බඳුවූ පඞ්කදුර්ග ජලදුර්ග ගිරිදුර්ගයන්විසින් සමත්කුළයන්
10 නාවූ මේ ශරණ්තොම ඒ ඒ තැන අවුරණ ලද්දී ඉතා දුකින් යායුතුවූවා මුනිහුපා වැද පුණ්‍යසම්පත් රැස්කරණට යන්නා
11 වූ අටලොස් දෙසවැසි සත්වයාට දුක්උපදවයි, එහෙයින් එය
12 තෝ මනා මගක් කර—වැලි අතානගඟුනම් වෙහෙර පූර්වයෙහි තමා පින්තෙදින් අහසත් පොළොවත් ගුගුරුවා

13 යම්තැනෙක මහර්ධිඇති එක් මහතෙරකෙනෙක් රහත්බවට
පැමිනිසේක්ද, එතැන උපතිස් රජුවිසින් පස්මහල් පහ
14 යක්තෙමේ රන්උළුසෙවෙනි ඇත්තේ එකල කරවනලද්
දේ ඒ පහයතෙමේ කාලක්‍රමයෙන් නටුයේ දැන් වැම්පම
15 ණක් ඉතිරිව සිටිනේයයි මාවිසින් අසනලදී; පින්වත තෝ
එයද මාගේ නමින් අළුත් කොට තනව—බෙන්තොට වෙ
16 හෙරත් නිශ්ශඞ්කරජහුවිසින් වූකලී එලොද්‍යානයක් කරවන
17 ලදී; එසේම මානමින් පොල්ආදියෙන් සම්පූර්ණවූ එක්මහ
උයනක් රොපණය කර” යි කියා ඒ ඒ පින්කිරියෙහි උහු
18 යෙදූයේය. ඒ තෙමේ එසේයයි පිළිවදන් අස්වා එකල ගඟ
සිරිපුරට ගොස් එහිදී පළමුකොට මනා සර්වාංගලක්ෂණඇති
19 සමන්දෙව්රුව කරවා රන්රුවන් අබරණින් එය සිත්කළු
20 කොට අලඞ්කාර කෙළේයි. එකල පසුව සමන්කුළු යනු කැ
21 මැත්තේ ඒ දෙවිඳු ඒ රුවන් පෙළහර සමග ගෙණ ඒතෙ
මේ නික්ම බෝතලනම් ගමට ගොස් එතැන් පටන්ම හේ
22 බඳනට පටන්ගත්තේය—හේතෙමේ කඳොහොය මු
වදොර පන්නිස් රියන් පමණවූ (හෙයක්ද) එම හොය එසේ
23 ම තිස්රියන් දික් (හෙයක්)ද එසේම උලපනගම්හි සතිස්
රියන් දික් (හෙයක්ද) අඹගමුවෙහි සූතිස් රියන් අයම්වූ
24 මනහර මහත් ඉතාදැඩි යහපත් (හෙයක්ද) යම්සේ ඇත් අස්
25 ගෙරි මීවුන් ආදින්විසින් යන්ට හැක්කේද එසේ බැඳවී.
26 ඒ ඒ මහහෙය බැම්මත්තෙහි උස්වැම් ආදියෙන් හෙබි
යාවූ සොඳුරු මහගෙවල් කරවා ආරාධනා කොට බොහෝ
භික්ෂූන් එක්කොට ඒ ඒ තන්හි ඒ භික්ෂූන්ට මහදන්දී මහ
පූද පැවැත්වීය.

27 සෙසු තන්හි නොයෙක් පරිද්දෙන් අම්බලම් කරවා එසේ
28 ම පාලම් තනවා පාදපාසාණයන් තබ්බවා මහවනය කපපවා
29 මහා මාර්ගය කරවා සමන් කුළුට ගොස් පාසලකුණ වැඳ ශ්‍රී
30 පාද චෛත්‍යාඞ්ගනභූමියෙහි දෙව්රුව පිහිටුවා ඒ තෙමේ ශ්‍රී
පාදමණ්ඩපයද කරවී—මහනුවනඇති ඒ තෙමේ ඒ හාත්
31 පස පව්රුද බඳවා ඉන් මත්තෙහි ඒ මණ්ඩපය මහහැතිලිද
32 මින් යටැම්හි දැඩිකොට බඳවා එයින් පසු සිරිපතුල පහන්
ආදින් තුන්දිනක් පුදමින් තමා මස්තකයෙන්ද සුවඳතෙල්
33 පහනක් ගෙණ සියහිමි මහරජහු නමින් වඳිමින් වඳිමින්
34 ඒ ශ්‍රීපාදය හාත්පස පැදකුණු කොට කොට මුළුරැය (පහන්)
පැවැත් වීය. මේ සියලු ප්‍රවෘත්තියන් ආදියෙහි පටන් ක්‍රම
35 යෙන් ඉතා උස්ගල් වැඹෙක ලියවා පසුව ඒ වැඹ පරාක්‍රම
36 බාහු මහාරාජාධිරජයාගේ කීර්තිස්තම්භයක් සෙයින් සතුටින්

ඒ තෙමේ එහි පිහිටවී. පරිපූර්ණ මනොරථඇති ඒතෙමේ
පසුව ඒ සියලු පවත් රජහට දූතමුඛයෙන් දන්වා යැවීය.

37 ඉක්බිති ඒ තෙමේ අත්තනගල්ලුවෙහෙරට ගොස් රජහුවි
38 සින් කී නියමයෙන් බොහෝ ධනව්‍යය කොට තුඟුසිඟුඇති
තෙමහල් පහයක් කරවා ප්‍රඥාසම්පන්න අනොමදස්සිනම් මා
39 හිමියාට ඒ පහය පූද පසුව උන්වහන්සේට මහරජහු නියො
40 වින් දන්වැටද තබ්බවා ශිලාලෙඛනයකුත් කරවී— ඉක්බි
ති මහඇමතිතෙමේ බෙන්තොටපටුන් ගොස් කාළිහෝමුව
41 දෙර අසූසතර රියන් මහහෙයක්ද කෙහෙල්සෙන් ගම්හි
සියක් යටි මහහෙයක්ද සල්ගමුගහ සතළිස්යටි හෙයක්
42 ද සල්රුක්හෙබ එක්සිය පණස්රියන් හෙයක්ද මේආදිවූ
43 පාලම් යානොහෙන ඒ ඒ තන්හි බඳවා එසේම බොහෝවූ
ආරාමහා ධම්මශාලාදීන්ද කරවා මහදන්හා පූජාද පැවැත්වී.

44 ඉක්බිති රජමහඇමතිතෙමේ බෙන්තොට වෙහෙරපටන්
කළුගංතොට දක්වා යොදනක් පුළුල්තන්හි පරාක්‍රමබාහු
45 නමින් ප්‍රසිද්ධකොට මනාසෙවනැති එළයෙන් හරිතවූ මහත්
46 පොල් උයනක් කරවී— ඒ ඒ රට කපු (කැටීම්) වියමන්
47 ආදිවූ සියලු කම්මාන්ත කරවා එක්දවසම නිමවා මහායසස්
ඇත්තේ මාහැඟි සව්සි කඨිනයක් භික්ෂුසඞ්ඝයාට දී මහත්
48 පූජාද කරවී. ඒ තෙමේ මෙසේම (දානාදිය) දෙමින් ඒ ඒ
තැන හැසිරෙමින් නැවත සසැටක් කඨින (චීවර) යන් භික්ෂු
සඞ්ඝයාට දුන්නේයි.

49 ඉක්බිති ඒ තෙමේ මාදෙල්ගස්නම් මහවනය මුල්සහිත
50 සියල්ල සින්දවා එහි එක් උතුම් ගමක් කරවා ඒ සමීපයෙහි
මහකොස්වනය කප්පවා එහි තුන්මහල් එක් පිළිම ගෙය
51 ක්ද බොධිය චෛත්‍යය ආරාමය යන මේ පව්රුවලලෙලන්
වෙළන ලද්දක් කරවා රජහු නමින් මහාපූජාත් කරවී. රා
52 ජන්‍යනම්අතෙත් මෙසේම මහපින් කොට පෙරලා අවුත්
ඒ සියල්ල රජහට දැන්වීය.

53 ඉක්බිති ඒ රජතෙමේත් උහුකෙරෙහි හටගත් මහාකරු
54 ණා ඇත්තේ මාදෙල්ගස්නම් ගම ආදිවූ බොහෝවූ උහුවි
සින් කරවනලද ගම් උහුගේම කුලසන්තක කොට දී පසු
55 වත් උහු ගෙණ ධාතුමන්දිරයට ගොස් සගමැද "මාගේ මේ
ඇමති උතුමා තුනුරුවන් කෙරෙහිද මාකෙරෙහිද හැම
56 කල පහන් සිත්ඇත්තේය; එහෙයින් මේතෙමේ බුදුනට
හා රජහටත් හිතසෙවනයෙහි තත්පරකම්ඇත්තේ ප්‍රියද
57 මනවඩනෙන්ද වෙයි. එහෙයින් මමද ප්‍රියවස්තුවෙන් දළදා
වහන්සේ පුදම්" යි කියා අඹුදරුවන් සහිත ඒ ඇමති උතු
මා බුදුන් දළදාවට පිදීය.

58 මෙසේ එතැන්පටන් ඒ මධ්‍යමලොකපාලතෙමේ උතුම් දෙවප්‍රතිරාජනම් උඹුලවාම නන්වැදෑරුම් මාහැඟි පූජා වස්තුවෙන් ලොවැස්සාවිසින් පුදනලදතෙරුවන් සතත යෙන් පිදුවීය,

මෙතෙකින් හුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවංස විවිධකුසලකාරාපනනම් අසූසවෙනි අදියර නිමි.

---

# 87 වෙනි පරිච්ඡෙදය.

---

1 කිසිකලෙක ලක්දිව්හි අවග්‍රාහවශයෙන් සියලුලුවූන්
2 සන්තාපතාකර හේතුවූ මහාග්‍රිෂ්මයක් හටගත්කල සස්‍යයන් මැලවෙනකල ඉක්මියනොහැකි දුර්භික්ෂඇතිකල සියලු ලක්දිව් වැසි මහජනයා අතිශයින් බියපත්කල රජතෙ
3 මේවූකලී එකල්හි තුනුරුවන් චෛත්‍යබොධින්ටද මහඹි ඇති නාථමෛත්‍රෙයදෙවාදී පූජනීය දෙවියන්ටද නන්
4 වැදෑරුම් පූජායෙන් සියලු ලක්දිව එක්උතුම් පූජාවක් කරවා
5 පූදපෙරදැරිකොට මහබික්සඟහු එක්කොට පිරිතුදු බණවා
6 මහර්ෂිහුගේ දළදාවහන්සේ (වඩාගෙණ) නුවර මොනවට පැදකුණු කරවා ඉන් පසු ඒ තෙමේ "වර්ෂාව වසීවයි" මෙ සේ අධිෂ්ඨාන කෙළේය.
7 එකල්හිවනාහි ඒ ඒ දිගින් මහවලා නැගෙනෙනෝ විදුලි
8 යෙන් නැවත නැවත අතිශයින් දිලියෙන්නෝම සකල ලොකයාගේ කන්සිත් පිනවමින් නැවත නැවත ගුගුරන්
9 නාහු මහගිම් නසනනාහු මහජනයා සතුටුකරනනාහු දුර්භි ක්ෂය කෙලසනනාහු දිගාන්තරය ශොභවනනාහු සස්‍යයන්
10 අස්වසනනාහු වස්නට පටන් ගත්තු. "බුදුන්ගේ අනු
11 භාවයෙන්ම අපගේ චිත්තානුකූලයකවූ මේ වැසිවලාවෝ මෙසේ වසිති එහෙයින් මේ බුදුගුණයෝ මෙපමණයෝයයි දන්නට දිව්‍යබ්‍රහ්මමනුෂ්‍යයන් අතුරෙහි කවරෙක් පණ්ඩිතවේ
12 ද? අපගේ රජතෙමේත් මහාතෙජස් මහඹි ඇත්තේය. මොහුහා සදෘශරජෙක් නුවූයේය. (මතුද) නොවන්නේය.'
13 මෙසේම මුනිරජහුගේ ගුණයද රජහු ගුණයද කියකියා

එකල්හි ලක්දිව්වැසි මහජනයෝ ප්‍රශංසා කළහ. මෙසේ
14 ධර්‍මයෙන් ලෙව් සසුන් පරිපාලනය කෙරෙමින් තමාගේ
15 ආත්මභාවයත් සාරවත් කරන්නේම කලක් රජසිරි අනුභව
16 කෙරෙමින් එක්කලෙක ඒ රජතෙමේ තමා බෑණනියන් ද
රු වීරබා කුමරහා පුත්‍රවූ විජයබාහුය එසේම භුවනෛකබාහු
17 ය තිලොකමල්ල නම එසේම පරාක්‍රමබාහුය ජයබාහුය යන
මේ පෙසලකුමාරයන් පස්දෙනා කැඳවා මොවුන් සදෙනා
ටම අවවාද දෙන්ට පටන් ගත්තේය.

18 "දරුවෙනි මා බස් අසව් මේ ලොකයෙහි පුත්‍රයෝවූකලී
19 අවජාතය අනුජාතය අතිජාතයයි තියා මේ තෙදෙනෙක්
වෙති, ඔවුන් අතුරෙන් යමෙක් මවුපියන්ගේ වංශක්‍රමයෙන්
වඩනාලද්දාවූ ඉසුරු, ගුණයට එකඟයෙන් අනුභවකරනට
20 අසමර්ථවූවාහු වඳුරෝ මල්වඩමක් සෙයින් නසා නිශ්‍රීකව හැ
සිරෙත්නම් ඒ දරුවෝ අවජාතහයි පුරාතන පණ්ඩිතයෝ
21 කීහු—යමෙක් එබඳු සම්පත්තියක් ලැබ මවුපියෝ යම්සේ
22 නම් එසේම අනුභවකරන්නෝ කුලක්‍රමය පාලනය කෙරෙ
ද්ද ඒ දරුවෝ අනුජාතහයි දනිව්—නැවත අන්‍යයා මම
23 තියම් යමෙක් කුලක්‍රමයෙන් රැකි සම්පත් සමගම නැවත
අන්‍යවූත් එයින් වැඩි බොහෝ සම්පත් උපයා සැප විඳිද්ද
24 ධීරවූ ඒ දරුවෝ අතිජාතහයි ප්‍රකටයෝයි· මාවිසිනුත් පිය
හු දුන් එක්මායාරට ගෙණ දුන් අනික් දෙරටත් දිනා වැලි
25 නිරවශෙෂ රාජ්‍යත්‍රයම එක්සේසතින් ලකුණුකරණලදී, වැලි
උහු විසින් දිනිය නුහුනු සියලු දෙමළුම පරදවන ලද්දාහ.
26 ගිරිදුර්ගාදින් ඇසිරු කොටගෙණ ඒ ඒ තැන වසන්නාවූ සිය
ලු වන්නි රජදරුවෝම මාවෙත ගෙන්වනලද්දාහ. සියලු දෙ
27 ශාන්තරයෙහිම කීර්තිය පතළකොට මෙසේ දහම් නයින්ම
28 කලක් මාවිසින් රජය කරණලද්දේය. පඬුරුසහිත රාජ
කන්‍යාවන් දඹදිවින් ගෙන්වා පරදෙසයෙහි ක්ෂත්‍රියයනුත්
තොප නෑයන් කෙළෙමි.

29 චන්ද්‍රවංශ සූර්‍ය්‍යවංශොද්භූතවූ පාණ්ඩවචොළිය (ආදී) වීරවූ ර
ජදරුවෝ කිරුළුඅබරණද මාවෙත එවූහ. හුදක් මේ තොප
30 සියල්ලවුන් විසින් පමණක් නොව එනකාලයෙහිත් සත්මු
හුඹුරු පරම්පරාව දක්වා වින්ද යුතුතාවූ වෙසමුණුරජහු
31 විසින් සඞ්ඛාදි නිදන් නවයසෙයින් මාවිසින් රැස්කරණලද
32 රුවන්රැස් ඇත්තාහ දුදනෝ මාවිසින් නිග්‍රහකරණ ලද්
දාහ, සජ්ජනයෝද පරිපාලනය කරණලද්දාහ, බුදුසස්නද
33 මොනවට සමගිකරණලද්දේය, එහෙයින් මම පියරජහුගේ
අතිජාත පුත්‍ර වීම් දරුවෙනි තෙපිදු මාබඳුවූ අතිජාතපුත්‍රවව්

34 පෙර ඔකාවස්පරපුරෙන් 'පැවති සගරරජහුගේ සැටදහ
සක් පුත්‍රයෝ එතෙක් රාජධානින් නිපදවා සියලු දඹදිව
35 සැටදහසක් විභාගයෙන් බෙදාගෙණ වෙන් වෙන්වූ රජය
36 සමගිවම කළහ ඒ දසබෑ රජදරුවෝද පෙරකීවාක් සෙ
සින්ම දඹදිව දසකොටස් කොට මොනවට රජකළහ. පින්
37 වත්නි එසේම තෙපිදු සුදුසු පරිද්දෙන් මේ ලක්දිව බෙදාගෙ
ණ උනුන් අනුශාසනා කරන්නෝම මොනවට රජය කරව්
38 දරුවෙනි සර්වප්‍රකාරයෙන් පරසතුරන්ට සිදුරු නොදක්
වව් " මෙසේ ඖරස පුත්‍රයන්ටහා බෑනාට අවවාද කෙළේය.
39 ඉක්බිති ඒ රජතෙමේ මහසඞ්ඝයාහා මහජනයා රැස්
40 කරවා "මාගේ බෑනනුවන්හා ඖරසපුත්‍රවූ මේ රජදරුවන්
සදෙනා අතුරෙන් කවරෙක් රාජ්‍යයට යොග්‍යදැ"යි විචා
41 ළේය—එකල්හි රජහුගේ එබස් අසා මහසවිසතෙමේ
(දන්වනෙපා) "මහරජනෙනි හවත්හුගේ මේ කුමාරයෝය
42 මේ බෑනාය යන මොහු සියල්ලෝම ධීරවීරගුණඇති බහු
43 ශ්‍රුතයෝය, සියල්ලෝම සඞ්ග්‍රාමාවචරයහ, පරසතුරන් මඩ
නෝය, ලෙව්සසුන් රක්නෝ රාජ්‍ය යොග්‍යම වනාහ; එ
44 සේද උවත් හවත්හු දෙටුපිත් විජයබා (කුමර) බාල්‍යවයසා
යෙහි පටන් තුනුරුවන්කෙරෙහි ප්‍රසන්නය, ගිලන් මහණු
45 න් උවටන්හි නිතොර එලඹසිටිසිත් ඇතෙන්ය, සත්‍යයෙන්
සත්‍යය සන්ධාන කෙරෙයි කෙළෙහි ගුණදන්නේද වෙයි, උ
46 සස්වූ සැදැහැ පැණගුණඇත්තේය, මහළු දුබල සතුන්අතු
රෙන් අසරණයන්ට ආධාරය, එසේම දුප්පත් සතුන්කෙරෙහි
47 අතිශය කාරුණපරය; තවද ඒතෙමේ ඒ රාජනාතරය වූකල
දූස භාවයට පමුනුවනලද භික්‍ෂුසඞ්ඝයාගේ බොහෝ නෑ
48 යන්ද අන්‍යවූත් බොහෝ ජනයාද උන්උන්ගේ ස්වාමීන්ට
49 රන්රුවන් ආදියදී ඒ දූසභාවයෙන් මිදවී— තවද මහර
ජනෙනි බොහෝ ඒ සොරහු රජගෙහිත් සොරකම් කොට
50 නිග්‍රහ යොග්‍යවූකල ඔහුවෙතටම පැමින තැතිගැන්මද
51 භයද දමා නිරුපද්‍රවවූවෝ අඞ්ගහානියටද නො පැමින ජීවි
තයත් ලද්දාහ—(තවද) මහරජනෙනි ඒ ඒ ගම්හි රාජ
52 යන්ත සුංකම් ගෙණ සොරවූ මිනිසුනුදු දැක උන්ට ස්වකීය ධ
නය දී දුක්පත් සියලු ජනයා ඒ ඒ සුංකමින් නිදහස් කොට
53 ලොකපාලනයෙහි පණ්ඩිතද්‍රයේ නීත්‍යයෙන් පාලනය කෙරෙ
යි, තොපව්සින් දීනියයුතු තිසි සිංහල වනජිරජකෙනෙකුදු
54 පළමුකොට උහු දැක නිර්භයවූවෝම තොප දකිති; "එනකා
ලයෙහි වූකලී අපකුල පරම්පරාව රක්නාවූ ඒ විජයබා කුම
55 රහු මෙතැන් පටන් නිරන්තරුම දැඩි භක්ති ඇතිව [illegible]

වනය කරව්ය "සි මෙසේ කියා ඇමති කුලගනෝ කරණ
56 ලද ආදරඇති තමතමා වලලහසන් හික්මවති. යම් මවු
පිය කෙනෙක් දෙතුන් අවුරුදු බාලදරුවන්ගේ මිහිරි බො
57 ලඳ තෙපුල් අසනුකැමැත්තෝනම් එබඳු මවුපියන් විසින්
"තෙපි කවරක්හු සේවනය කරවූදැ" යි විචාරණලද දරු
58 වෝ "අපි ඒ විජයබා කුමරහු සේවනය කරන්නෙමුය" යි
කියති කොපයෙන් මවුපියන්විසින් තළනලද දරුවෝ (උ
59 හුවෙත) ආවෝ තමතමා දුක් කුමරහට කියති. එකල්හි විජ
යබා කුමරතෙමේද කරුණාවෙන් උන් කැඳවා "මෙතැන්
60 පටන් තෙපි ඒ දරුවන්ට නොතළව්ය" සි මෙසේ කියා තමා
ගේ ඒ භාඩාගාරයෙන්ම ඒ ඒ දරුවන්ට බත්වැටුප්ද දෙවී,
61 ඇස්ඇති පුද්ගලයෙක්තෙමෙ පුන්සඳ සහිත අහස බලා "පු
62 න්සඳ මෙහි කොයිදැ" සි විචාරනනාසේ ඒ කුමරහුකෙරෙහි
රාජ්‍යරජනය කරණසුලු ගුණයෝ විද්‍යමානද්වාහුය" සි
63 දැනගණිත් "පින්වත් මහාරජනෙනි තෙපි සම්සයා කො
සේ විචාරවූද පින්වත්මහරජනෙනි ඇසූවමැනව, හුදක්
ලක්දිව්පමණක් නොවෙසි දඹදිව් පාලනයටත් උහුපිළිබඳ
ශුභලක්‍ෂණ ඇත්තේසි" දැන්විය.

64 උහුපිළිබඳ මේ ආදී බොහෝ ගුණයන් සඞ්ඝයාගේ මුඛ
65 යෙන් අසා සතුටුකඳුලෙන් තෙමුනු ඇස්ඇත්තේ විය. එකල්
66 හි රජතෙමේ සන්තොෂයෙන් ඒ විජයබා පිතු කැඳවා සම්
පයෙහි සමාන අස්නෙක හිඳුවී——ඉක්බිති මහරජතෙමේ
තමාවිසින් නොකරණලද යම් ලොකශාසන කෘත්‍යයෙක්වී
67 නම් ඒ සියල්ලම උහුට දැන්වී. "පරසතුරන් විසින් රුවන්
වැලිසෑය බිඳහෙලනලද්දේය, එය පෙරලා බඳවා රන්
68 කොතින් සරසවා සිංහලාධිපතීන්ගේ යම් පුරාතන රාජ
ධානියක් තොමෝ සියලු නගරීන්ට තිලකවිද උතුම් ඒ
69 පොළොන්නරුව තුඟුපව්රු දොරටුහා මොනවට බෙදන
ලද සිවුදොරටුහා ගැඹුරු පිරියෙන් පිරිකෙව් කරණලදුව
70 පෙරපරිදෙන් කරවා එහි දිව්‍යගාරයක් සෙයින් මනොහ
රවූ පෙරදළදාගෙහි ඒ දළදා පාදා දෙදෙනම පිහිටුවා, "ම
71 මද පූර්වරජුන්ගේ මේ රාජධානියෙහිම අබිසෙව් පෙළහර
72 කරන්ට කැමැත්තෙමි" ත්‍රිසිංහල ගතවූ සියලු බික්සඟ
හුද මහජනයාද දහස් තොටට පමුනුවා එහි මහාපූජ්
73 පෙරටුකොට මහවැලිගඟ උපසම්පදා මගල්‍යය කරවා තෝ
බුදුසස්න සමෘඩකරව" යි යනමේ ආදිවූ සියලු ලොකශාශන
74 කතිව්‍යය උහුට කියා උහු අත්හි හේතෙමේ රාජ්‍යභාරය
තැබූයේසි.

75 ඉක්බිති රජතෙමේ ඉනිරි පස්රජකුමරුවන්ද මුනිඋතුමා ගේ වරදළදා පාදා යන ඒ දෙදෙනාද ශ්‍රමණසමූහයාද සියලු අමාත්‍යවර්ගයාද ලඞ්කාපෘථිවියද උහුටම පාවාදිනි.

මෙතෙකින් හූදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවංස රජ්ජභාරාරොපනනම් සැත්තෑසත්වෙනි අදියර නිමි.

---

# 88 වෙනි පරිච්ඡෙදය.

---

1 එකල්හි නිඃශඞ්කයසිත්ඇති ඒ විජයබාරජතෙමේද ඒ එ
2 සේයසි ප්‍රතිවචනදී රාජ්‍යය භාරගත්තේයි. ඉක්බිති ඒ තෙ
මේ (තමා) "අභිජනපිත්බැව් ජීවත්වනනාවූම ඒ පියරජ
3 හට දක්වන්නෙම්" යි සිතීය. "ස්වාමීඅමාත්‍ය සුහෘත් ආදිවූ
මේ සපතරාජ්‍යඞ්ගයන් අතුරෙන් මිත්‍රාගයොග්‍යවූ ඇඳහිලි
4 ඇති සම්මන්ත්‍රණයෙහි විසාරදවූ විපත්හිදී එක්ව වැටෙන
සත්‍යවාදී ප්‍රියඞ්කරවූ කවරෙක්තෙමේ දැන් මට ඇතෙත්ද්‍යෙයි
5 නැවත නැවත විමසා පියහු බුහුනනියන් පුතුවූ වීරබාහු
ආදිපාදතෙමේ වූකලි පඬිතය ගුණයෙනුදු හෙබියේ සර්ව
6 කෘත්‍යයෙහි කොවිදවූයේද විද්‍යමානය "ඒ මේ තෙමේ
වැලිකෙළිනාදවස්පටන් අදවනතෙක්ම මාකෙරෙහිද සුද
7 නන් කෙරෙහිද ඒකාන්තවිශ්වාසය කෙරෙයි හේතෙමේත්
මා නොදක්නේ කිසිතැනෙක සිටිනට නොහැක්කේය මමද
8 උහු නොදක්නෙම් ඉන්ට නොහැක්කෙම් ඒ තෙමේද ඥාණ
9 බල කායබලාධිකවූයේ ලෙව්සසුන් වඩන්ට මා සෙසින්ම
උත්සාහකෙරයි එ හෙයින් ඒ තෙමේ මිත්‍රාගයොග්‍යය" යි
දැන එකල්හි උහු කැඳවා සම්භක්තමිත්‍රස්ථානයෙහි යෙදු
යේයි.

10 ඉක්බිති "මාවිසින් අතිශයින් උසස්වූ මනහර පින්කම් කට
යුත්තේමය දළදාපාදායන ඒ දෙදෙනා මට පාවාදෙන ලද්
11 දාහ. එහෙයින් ඒ ධාතූන්ගේ ප්‍රාසාදයතෙම අභිනවකොට
මාවිසින් කටයුතෙත්ය වැලි පියරජුන් විසින් කරවනලද
12 පුරාතන දළදාධාතුමන්දිරයත් ජීර්ණය එහෙයින් එයම අළුත්
කොට කරවන්නෙමැ" යි සිතා සියලු සිප්කම්හි නුවනැති

13 බොහෝ ශිල්පීසමූහයන්ද අනෘවූ බොහෝ කම්කරුවන්ද
ඒ ඒ තැනින් රැස්කොට පූර්වකම්මාන්තයටත් වඩා දෙගුණවූ
14 දැකුම් කටයුතුවූ නවකම් කරවා දිව්‍යමැඳුරක්සේ සොඳුරුවූ සි
15 යලු දළදාමැඳුර නිමකරවා ඒ තෙමේ එහි සම්බුදුහු ධාතුවය
16 පිහිටුවා ඉක්බිති පූර්වයටත් වඩා ධාතූන් පිළිබඳ මහපූද ද
වස්පතා පවත්වන්ටත් තමාගේ ආරක්‍ෂාවත් නියොග කො
ළේය.

17 එතැන්පටන් ඒ රජතෙමේ සියපියරජහුගේ ප්‍රෙමය වි
ගුණ ත්‍රිගුණ කොට නිරතුරු උපස්ථාන කෙළේය. තමාගේ
18 පියරජහට පුත්‍රවියොගයෙන් හටගත් ශොකයක් "නහමක්
වේව" යි සිතා පැරකුම්බාය එසේම ජයබාය යන මේ සිය
19 මලුන් දෙදෙනා මිහිපල්තෙමේ සැමකල්හි පියහු සමීපයෙ
20 හි වැස්වීය—ඉක්බිති ඒතෙමේ තිලොකමල්ලනම්වූ සිය
මලු කැඳවා දඹදෙණිපුරපටන් යම්තාක් දකුණු සයුරද යන
21 මේඅතුරෙහි විද්‍යමානවූ සිංහලසේනාව උහුට අනුවර්තනය
22 කොටදී පියරජහට දක්‍ෂිණදිශාන්තරයෙහි ආරක්‍ෂාකරණ
23 යට එකල්හි උහු මහවත්තල ගම්හි සිටවී—මිහිපල්තෙ
මේ උතුරු දිශාභාගයෙහි "කුඩාවැලිගම්හි ඒ සතුරෝ පර
24 තෙරින් බොහොසේ බසිති සඞ්ග්‍රාමොපායෙන් බිහිසුනු ඒ
25 දිග පරිපාලනයට භුවනෙකබාහුනම්වූ මා මල්රජු හැර
කවරෙක්හෝ ඇත්තේද" යි සිතා උහු කැඳවා උහුට උතු
26 රුදිග පවත්නා බොහෝ සෙන්දී පියරජහට ඒ දිශාමුඛයෙ
හි අරකුත් කරණපිණිස යාපව්වෙහි සිටිනට නියොගකො
ළේය.

27 ඉක්බිති ඒ රජතෙමේ තුමූම වීරබා (කුමරු) හා සැරසුනේ
"ඒ ඒ තැන හැසිර සියලු දුර්ජනයන් මැඩ ලක්දිව නිෂ්ක
28 ණ්ටක කොට පසුව පියහු අනුමති ලැබ පොළොන්නරුනු
29 වර කරවන්නෙමු" යි නික්මිනි—එකල්හි ඒ පැරකුම්බා
මහරජතෙමේද පුත්‍රප්‍රෙම නැමති මහවතුරෙන් ගෙණයනු
30 ලබන්නෙකුසේ පියහුගේ අනුගමනය පිත්හු නොකැමැති
කල්හිම සාදර කෙරෙමින් දයාපරවසවූයේ පසුපසෙහි
31 යන්ට ආරම්භ කෙළේය. පසුව ඒ තෙමේ පියරජු නැවත
32 නැවත වැඳ බලාත්කාරයෙන් නවත්වා යන්ටම නික්මිනි.

නැවත රජතෙමේ "මා පුතුකෙරෙහි යම් ජනකෙනෙක්
පෙම්කෙරෙත්නම් ඔහු සියල්ලෝම ඒ අනුවයෙත්වයි" නි
33 යොග කෙළේයි. එකල්හි රජහු එබස් අසා ප්‍රමොද්‍ය බහුලවූ
සියලු රාජාමාත්‍යයෝද සියලු සෙනෙවියෝද එසේම සියලු
34 මහාවීරයොධයෝද එසේම සියලු ඇතුන් නැගෙන්නෝද

සියලු අසුන් නැගෙනෝද එසේම සියලු රියනැගෙන්
35 නෝද අප බෝසත් විජයබා (රජ) පොළොන්නරුනම් රාජ
ධානිය කරවන්ට දැන් යන්නේල ඉදින් ඒතෙමේ යේනම්
36 වහා අපිදු යම්හයි කියා රජු කැටිව යන්ට ඔහු සජ්ජිතවූවෝ
නික්මුනාහ. එකල්හි කෞසීද්‍යවසයෙන් අමාත්‍යභටාදීන්
37 අතුරෙන් සමහරෙක් යන්ට නොකැමති කල්හි ඔවුන්ගේ
අඹුවෝ "පින්වත් ස්වාමිවරිනි අප සමග යෙත්වා නො
38 හොත් නොයෙත්වා අපි දැන්ම ගුණසලකනනාවූ උන්ව
39 හන්සේ කැටිව යනනම්හ. උන්වහන්සේ විසින්කරවනල
40 ද උතුම් නුවර වසනනම්හ" යි කියා පෙරතුව එව්හූ නික්
මුනාහ. එකල්හි එසේම යන්ට නොකැමැති සිය සිය පිය
41 නුදු හැර බාලදරුවෝ පවා උහූ අනුවම ගියෝසි—— තම
තමන්ගේ ගම්හා ගෙවල්ද භොගසම්පත්ද දමා නික්මෙ
42 නනාවූ ඒ මහජනයා දකිමින් රජතෙමේ මහාකරුණාවෙන්
නැවත නැවත අවවාද කෙරෙමින් නැවැත්වියයුතුනාවූ සි
යලු ම මිනිසුන් නැවැත්වී.

43 ඉක්බිති ඒතෙමේ කැමතිපමණක් සිවුරගසෙන් ගෙණ
44 ඉතා දුගීමවූ උස්වූ වාගිරිගලට ගියේය. ඒ තෙමේ ඒ පව්ව
මුදුන්හි මාහැඟි ඉතා උස්පව්රෙන් වටකරණලද මහඝුරජ
45 ගේයක් කරවා තමා පියරජහුවිසින් දුන් මහාධනය සිය
ල්ලම ආපදෘපිණිස එහිම සුරකිව තැබිය. ඒ මහපව්වෙහිම
46 යහපත් සඞ්ඝාරාමයකුත් කරවා මහානෙත්‍රප්‍රාසාද විහාර
47 යෙහි නායකවූ මහතෙරුන් වඩාගෙණවුත් ඒ ආරාමය
උන්වහන්සේට දී මහාපූජා කරවා දන්වැටද තැබූයේය.

48 පසුව ඒ රජතෙමේ සමන් කූළට ගොස් මුනිහුගේ පාදය
49 වැඳ එයින් ගඟසිරිපුරට ගියේය. ඒ තෙමේ එහි නියම්
ගම්පානම්වූ පුරාතන විහාරයෙහි කැඩුම් බිඳුම් පිරියම් කරවා
50 එකල්හි එහි වැසි භික්‍ෂූන්ට දන්වැටද වෙන්කොට තබා
51 සිඳුරුවානට එලඹියේය. ඒ රජතෙමේ එහි වල්ගම්පා
නම් විහාරය කරවා පසුව එහි පියරජහුනමින් අභයරාජ
52 නම් පිරිවෙණද කරවා ඊට නන්වැදෑරුම් පිරිකර ගම් කුඹු
රු ආදිය දුන්නේය.

53 ඉක්බිති මිහිපල්තෙමේ හස්තිගිරිපුරවරයට ගොස් එහිද
(තමා) සුළුපියරජුවිසින් කරවනලද සිත්කළුවූ මහාවිහාර
54 යෙහි උහුගේම සතතයෙන් පිදියයුතු ශරීර නිඃක්ෂෙපස්ථාන
55 යද නැවත නැවත බලමින් වීරබාහුනරෙන්ද්‍රයාද සේනා

වද සමග කනස්සලුව්යේ එහිදී අනිත්‍යලක්‍ෂණය නැවත
56 නැවත ඉපදවී— ඉක්බිති එහි තුන්මහල් උතුම් පිළිම
ගෙයක් කරවා එහි මහත් බුදුපිළිරුවක් කරවිය— අන
57 තුරුව සුළුපියහු පිළිරුව සංහරණයෙන් සරහනලදහු
58 මොනවට කරවා එහිම තැබ්බවී. මිහිපල්තෙමේ පිළිමගෙය
ටද (සුළුපියහු) ඒරුවටද මනහරවූ කැපපසගම්හා බොහෝ
59 පිරිවරම්නිසුත්ද දී උහු නමින් භුවනෙකබාහු පරිවෙණයයි
60 නාමයද තැබූයේයි, ඊට ඉක්බිතිව ඒ නුවර නරනාරීජනයා
ගෙන් සමාකීර්ණ කොට පව්රු පිරි ආදින් පිරිකෙව්ද කරවී,
61 සූරවූ ඒරජතෙමේ සිවුරඟ මහසෙන් ගෙණ ඒ (හස්තිශෛ
ලපුර) යෙන් නික්ම යාපව්නුවරට ගියේය. ඒ කාලයෙහි
62 දී පෙර මහයුද කොට පලවනලද චන්ද්‍රභානු නරේන්ද්‍ර,
63 තෙමේ පාඩි සොළිආදිරටින් මහත් බලඇති මහාදෙමළ
යොධයනුදු කැටි කොටගෙණ ජවකසෙනා සමග මාතොට
64 ගොඩ බට්‍යේය ඊට අනතුරුව ඒ රජතෙමේ පදිරට තුරු
ත්‍රිරට ආදියෙහි වැසි සිංහලයනුත් වසඟකොටගෙණ යාපව්
65 නුවරට ගොස් කඳවුරු බැඳගෙණ "ත්‍රිසිංහලය ගනෙනම්
ඔවුන් නොහරිනෙනම් එහෙයින් බුදුහු දළදාව හා පාදාවත්
66 ඒ රජයත් මට දෙව ඉදින් නොදෙයි නම් යුදකර" යි කියා
දූතයනුදු මෙහෙයී,
67 එකල්හි විජයබා රජතෙමේත් වීරබා මිහිපල්නු කැඳවා
68 මන්ත්‍රණය කොට මහබලසෙන් සරසවා "ආශ්චර්‍ය්‍යයෙක
මෙකල්වූකලී අප දෙදෙනාගේ බාහුවික්‍රමය දකිනනම්හ" යි
69 කියා ඒ දෙදෙනම පිටත්වගෙණ චන්ද්‍රභානු (රජු) මහසෙන්
හාත්පසින් වටලා රාමයුද්ධය සෙයින් දරුණුවූ මහයුදකළහ.
70 එකල්හි යුද්ධයෙහි පරදනාලද්දාවූ සතුරු යොධයෝ ආයුධ
රහිතව මුළාව ඇවිද්දහ, සන්‍ත්‍රාස කළාහ, හසින් පෙළී වැන්
71 දහ, තැතිගත්තහ, වෙව්ළූහ, යුදෙහිදී සරණ ඉල්ලූහ,
ඇඹූහ, වැලපූනාහ, එකල්හි භයවූ සතුරුභටයෝ කිසිවෙක්
72 වනයබලාද කිසිවෙක් මූහුදු බලාද තවත් කිසිවෙක් කඳු
බලාද භයනිම්තෙනන් හාත්පස දිවපූහ. හේතෙමේ මෙසේ
73 ම යුදකොට බොහෝ භටයන් මරවා ඒ චන්ද්‍රභානු නරනිඳු
74 නිරායුධ කොට පැලවී— ඉක්බිති උහුගේ උතුම් අන්තඃ
පුරස්ත්‍රීන්ද සියලු ඇතුන්අසුන්ද කඩුආදිවූ බොහෝ ආයුධ
75 යන්ද මහත් වස්තුවද ජයසක් ජයසත් ජයබෙර ජයකොඩි
යන මේ සියලල පියරජුවෙත එවූයේය. මෙසේ හේතෙමේ
76 තුමුල් යුදකොට (මිහි) මඬල ජයගෙණ විජයශ්‍රියට පැමිනා
ලක්දිව එක්සත් කෙළේය.

77 පසුව තුඟුපව්රුපිරියෙන් පිරිකෙව් කරණලද ඒ නගර
යද කරවා ඉක්බිති එහි මාහැඟි රජගෙයක්ද කොට නිමවා
78 නැවත එකල්හි ඒ නුවර ඇසුරුකළ මහත් භික්ෂුසඞ්ඝයාට
79 දන්වැටද තැබී. ඉක්බිති ඒ තෙමේ භුවනෛකබාහුනම්
මල්රජු අස්වසා පෙරසෙසින් යාපව්වෙහි රැඳවී. අනන්තර
80 යෙහි රජතෙමේ අනුරාපුරට ගොස් එහි ථූපාරාමාදී සියලු
සිද්ධස්ථානයන් හාත්පසින් මාරයාවිසින් මවනලද බලකොටු
81 වැනිවූ මහවනය සිඳුවා ආශානාදියෙහි භේදඹුබඳු පව්රද
82 කරවිය. ඒ දිසානායකතෙමේ නවකම්හි සිත්කළුවූ මේ
සිද්ධස්ථානයන් කරවා මහපුද පැවැත්වී.

83 ඉක්බිති ඒ මිහිපල්තෙමේ පියරජහුවිසින් ආරබ්ධකොට
නොනිමියාවූ රුවන්වැලිසෑයෙහි නවකර්මාන්තය නිම
84 වනු කැමැත්තේ පුරවැසි සියලු මහජනයා ඒ පුරයෙන් ගි
ය ගිය තැනින් වහවහා එක්කොට විසාරදවූ බොහෝවූ
85 ශිල්පීසමූහයා මේ (නවකම්) හි යොදවා සෙනානාථපිරිවෙ
86 ණ මහතෙරහු ප්‍රධානකොටඇති සඞ්ඝයාට දන්වැටද නිම
වා නවකම් කරවන්ට ඒ සඞ්ඝයා එහි වැස්වී——පසුව පි
87 හිටි රට වැසි වන්නිරජදරුවෝ බොහෝ පඬුරු දී මිහිපල්හු
88 දුටහ. එකල්හි හේතෙමේ හිඳුළු සේසත් සෙමෙර ආදිවූ
මහාවන්නිරාජන්‍යයන්ගේ කකුද (භාණ්ඩ) යන්ද ඔවුන්ට දී
89 ඒ සියල්ලන් පිණවා ඒ නුවර රක්නට නියොග කොට ඉක්
බිති එසින් පොළොන්නරු නුවර ගියේය.

90 වැලි නරනාතෙමේ එහිදී විරබා මිහිපලු කැඳවා "අපි මෙය
යහපත් මුල්රාජධානිය කරම්හ. යශොරාශි කාළිපුරයෙන්
91 දිශාමුඛය පුරවම්හ" යි උහුහා මන්ත්‍රණය කොට "දැන් පු
92 ලස්තිනම් පුරයෙහි ප්‍රාසාදය පිළිමගෙය විහාරය පිරිවෙණ
චෛත්‍යය දාගෙය පවුරුය දොරටුය ගුරුළුවිං පහය සඳළු
93 සහිත පහය මණ්ඩපය ධර්මශාලාය එසේම දෙවාලාදිය(යන
94 මොව්හු) කිසිවෙක් පැලවගිය තෘණවෘක්ෂාදියෙන් වැසු
නෝ සිටිති. දිරාගිය ටැම් සමූහඇති අනික් සමහරක් ආධා
95 රනැතිව වැටෙති. අනික් සමහරක් මුලපටන් අගදක්වා
බිඳුනු මහ බිතුබරින් බිම්බලා නැමුනාහු අනාධාරනැත්
96 තෝ වැටෙනු කැමැත්තෝය, බෙදයහි අනික් කිසිවෙක්
හාත්පසින් දිරුබැවින්ද දුබල බැවින්ද සිටිය නොහැකෙස්
97 මහලලන්සේ දිනෙන්දින නැමෙති. අදෝමැසි! තවත්
සමහරක් බිඳුනාවූ තුලායෂ්ටිහා නටුවාවූ කොබෝගෙඩි
98 වලලු ඇතිවෙති අනික් කිසිවක් විනාශවූ මෘනකඇති වෙ
ති, බිඳුනු උළු ඇතිවෙති (එසේම අනික් කිසිවික්) දිරාගිය

ගෝනැස් ඇතිව බුන්නැතිත් වැගුරුනු වැසූ උළුඇතිවේ
99 ති; අනික් තිසිවෙක්වනාහි බිතුහා ටැම් ඉතිරිව සිටිති අ
නික් තිසිවක් ගිලිහුනු දොරඇතිව නටුවාවූ දොරබැම් ඇති
100 ව අනික් තිසිවක් ලිහිල් පියගැටඇතිව නටුවාවූ පිළිකඩ
ඇති වෙති. තිසි ගෙයක්හුගේ ගෙපල්පමණ හේතුව පැ
101 ණෙයි (එසේම) අනික් තිසිවක්හුගේ (ගෙය) පිහිටිතැන් ප
මණකුත් නොපෙණේ නොයෙක් බසින් තිම නිශ්‍රිත මේපු
102 රය සශ්‍රික කරනනාම්හ. රජතෙමේ අනුමත කෙරේවා. පසු
ව මේ උතුම් නුවරදී අභිෂෙක මගලස්‍ය කෙරේවා" මෙ
සේ තියා පියරජුවෙත ඒ තෙමේ දූතයෙක් මෙහෙයිය.
103 ඉක්බිති රජතෙමේද එ පවත් අසා සතුටු සිත්ඇත්තේ එ
කල්හි තෙමේ මූලරාජධානිය කරවන සිත්ඇත්තේ මහ
104 ඇමතිමණ්ඩලයා කැඳවා ලඞ්කාරාජ්‍යවාසී සියල්ලන් ඒ ඒ
105 (ක්‍රියා) යෙහි යොදවා අයඃකාරයන එසේම ලියනවඩුවන
නළකරුවන කඹුරන කුඹලුන රන්කරුවන සිත්තරුන බර
106 අදිනහන බැළයන දසයන සැඩොලුන කම්හි සමත්වූ උළු
107 වඩුවන සුණුවඩුවන ලීවඩුවන ගල්වඩුවඟීයන (යන මෙ
තෙක්දෙනා) එක්කොට ඉන්පසු පිඹිනාහම මිටිය හඬුය
යකුල තිණ්හිර යනාදී සියලු කඹුරු බඩුය තියුණුවූ බො
108 හෝ තියත වැය පොරෝය ගස්පළනදැය ගල්කටුය ශසත්‍ර
109 ය කැටබිඳිනාමුගුරුය උදළුය කලාල පැස යන මේ ආදිවූ
110 සියලු උපකරණයන්ද මුතු වෙරළුම්ණිආදිවූ මහා ධනයද
සාදරයෙන් ඡී පිත්රජුවෙත සේනාහා යැවීය.
111 එකල විජයබා රජතෙමේද සතුටු සිත්ඇත්තේ බොහෝ
112 කලක් වල්වූ නටුවාවූ ඒ රටෙහි සුන් බුන් මහඉවුරුඇති
ගැඹුරු දියනැති වැව් පොකුණු වේළිහා ගැඹුරු විල්ආදී
113 ජලාධාරයන් පෙරසෙයින් බඳවා (යම්සේ) ගැඹුරුදියපි
රුණු නොයෙක් පියුමෙන් ගහණවූ නන්මස්කැලන් විසින්
114 ආකුලවූ (ජලාශය වෙත්නම් එසේ කරවා) සියලු සස්‍යයන්
ගේ උත්පත්තිස්ථානවූ බොහෝවූ හැමකල් සරුවූ කෙත්
115 තනවා ඉන්පසු ඒ ඒ තන්හි සියලු සස්‍යයන් සම්පාදනය
කරවා ඒ සියලු රට මනොහර කොට සමෘඬකරවී.
116 ඉක්බිති රජතෙමේ සයුරසේ ගැඹුරු පරිඛායෙන් පිරි
වරණලද සක්වළගලබඳුවූ සිත්කළු පවුරු වලලුඇති නො
117 යෙක් අරමින් වටකළාවූ නොයෙක් පොකුණින් යුක්තවූ
නොයෙක් විහාරසම්බන්ධඇති නොයෙක් සැයෙන් ගහණවූ
118 නොයෙක් ගුරුළුවං ගෙයින් මිශ්‍රවූ නන්පහයෙන් හෙබි
යාවූ නොයෙක් මුඹුසෙවෙනි කම්ඇති නොයෙක් මණ්ඩප

119 යෙන් මණ්ඩිතවූ නොයෙක් දෙවාලයන් ඇත්තාවූ නානා ගොපුරයෙන් භාස්වරවූ නානාගෙවල් පෙළින් සිත්කළුවූ
120 නානා වීථියෙන් විරාජිතවූ මොනවට බෙදනලද සතර දොරඇති යහපත් තුන්මං සතරමං සන්ධිඇති උතුම්වූ පුලස්ති පුරය පෙරසෙයින් කරවිය.

121 මෙසේ කානනියෙන් ඕතොමෝ යම්සේ මිථිලාව දීනාද කාම්පූරය බිඳිද සැවත් (නුවරට) සිනාසේද මධුරාව දීනාද බරණැසකෙලෙසාද විසාලානුවරත් කොලලකාද චම්පානුවර කම්පාකෙරෙද එසේ ඒ තෙමේ ඉන්‍ද්‍රනගරිය සදෘශකොට පොළොන්නරුපුරය කරවී.

මෙතෙකින් සුජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස පුලස්ති පූරකාරාපනනම් අටඅසූවනඅදියර නිමි,

---

# 89 වෙනි පරිච්ඡේදය.

---

1 ඉක්බිත්තෙන් ඒ නරේන්‍ද්‍රතෙම " පුලස්ති නම්වූ මේපුරය පූර්වයෙහි යම්සේවිද එසේ කරවනලද්දේ සර්වනගරාංගයෙන්
2 සමන්විතය. දැන් මේ පුරයතෙම ඓශ්වර්‍ය්‍යසෞභාග්‍යලක්ෂ්මිය කාරණකොටගෙණ බබලයි. ජෙතුත්තරනම් නුවරද
3 පරයයි· සාගලපුරය පැහැරගන්ට ඊර්ෂ්‍යාකෙරෙයි සුංසුමාරගිරීනම් පුරයද පැහැරගෙණ තිමේක සාකෙතපුරය
4 සලකාද? අයෝධ්‍යය රජගහනුවර ජීවග්‍රාහයෙන් ගන්ට ඊර්ෂ්‍යාකෙරේ සකස් පුරයද විධ්වංසනය කොට ඉඳුපත්නුවරට
5 ගර්ජාකෙරේ කිඹුල්වත්පුරයහා මිත්‍රභාවයකරන්ට උත්සාහකෙරේ. එහෙයින් ශක්‍රපුරයෙහි දෙවියන්ට අධිපතිවූ ශක්‍රතෙම යම්සේද එසේම රජුන්ට අධිපතිවූ මහත් සෘද්ධිඇති
6 රජතෙම මේ පුරයෙහි දැන් අභිෂෙකොත්සවය කරන්ට වඩින සේක්වා " මෙසේ කියා පියරජනත්කර දූතයෙක් යැවූ
7 යේය, ඉක්බිත්තෙන් ඒ රජතෙමේ ඒ ප්‍රවෘත්තික්‍රමය අසා

තුටුපහටුව සේනාවවිසින් පෙරටුකරණලද්දේ රජහට
8 සුදුසුවූ මහත් උත්සවයෙන් යුක්තව දඹදෙණිනුවරසිට ඒ
මූලරාජධානියට පැමිනියේය,

9 එකල්හි විජයබාහුරජතෙමේද ගවුවක් පමණ තැන් පෙ
ර ගමන්කොට ඒ මහරජානන් ඒ රාජධානියට කැඳවා
10 ගෙණයේය. ඉක්බිතෙතත් ඒ පුරයෙහි රජහුගේ අභිෂෙක
11 මහොත්සවය සත්දිනක් පවත්වා පිළිවෙළින් නිමවිය. ඉක්
බිතෙතත් හේතෙමේ විරබාහුවරජහට ඒ උතුම් රටදී ඒ
12 සමෘඩවූ රාජධානියෙහිම උන්නු තබා "සර්වඥයන්වහන්සේගේ
ධාතුන් මේ රාජධානියට ගෙණ එමි" යි (සිතා) පියරජානන්
13 සමගම දඹදෙණි පුරයට ගියේය. ඉක්බිති හේ තෙමේ ලක්
දිව්වැසි මහජනයා රැස්කරවා දඹදෙණි පුරයපටන් පො
14 ළොන්නරුපුරවරය දක්වා පස්යොදුන් පමණ* මහමග සම
15 කොට එහි අතරතුර අඩයොදුන් අඩයොදුන් පමණතන්හි
මගුල්කොඩි රඹතොරන් ආදියෙන් මනෝහරවූ මහරු
16 නවාතැන් එක එක කරවූයේය——ඉක්බිත්තෙන් දිව්‍යරථ
සෞභාග්‍යයෙන් සුඳුරවූ මහාරථයෙක්හි සර්වඥයන්වහන්සේ
17 ගේ පාද දළද දෙදෙනාවහන්සේ වඩාහිඳුවා අසමානවූ
මහාබ්‍රහ්මරථය බ්‍රහ්මසමූහයන්විසින් මෙන් ඒ මහාධාතූන්
18 පිහිටි උතුම් මගලරථය හාත්පසින් සේවනය කරනනාවූ
නොයෙක් භික්ෂුසඞ්ඝසමූහයන් සමග ඒ මහත් දඹදෙණි
පූරවරයෙන් ඒ රජතෙම නික්ම රන්මුතුකුඩය රන්මුතුසෙ
19 මරය, රන්මුතුකොඩිය, රන්මුතුමාලාය, රන්රිදී කලස් හා
20 රන්රිදී විජිනිය, රන්රිදී කෙණ්ඩිය, රන්රිදී සක්ය, රන්රිදී
21 ආධාරඇති රන්රිදීකරඬුය, රන්රිදී තලිය, රන්රිදී කැටපත්
22 ය, රන්රිදී රඹහා රන්රිදීයෙන්කරණලද ශඞ්ඛවලයාකාර
23 අලඞ්කාර ජතිය, රන්රිදී අසුන්ය, රන්රිදී ඇතුන්ය, නානා
විධවූ රිදීරන් ආදියෙන් කළ පහන් දඬු ආදිය යනමේ දෑ
24 ධාතුපූජාපිණිස ගෙණ සාධුකාර පවත්වා අභිමුඛයෙන් හා
පශ්චාද්භාගයෙන් අතුරුනැතිව යනනාවූ ඒ ඒ ධූරයෙහි නි
25 යුක්ත මිනිසුන් කරණකොටගෙණ සිත්කළුවූ හස්ත්‍යාභර

---

* දඹදෙණි පුරය පටන් පොළොන්නරුවදක්වා මාර්ගය පස්යොදුනට ඉතා අධිකයි ඉන්නිසා පසළොස් යොදුනක්හෝ විසිපස්යොදුනක් කියා තිබී පසුව මෙසේ වූයේයයි හඟිමු එසේත් ලැබුනුපමණ පොත්වල 'පඤ්ච යොජන මත්තකං' කියා තිබෙනබැවින් එසේම තැබූවෙමු.

ණයෙන් සරහනලද ප්‍රශස්තවූ හස්තිපඞ්ක්තීන්විසින්ද සියලු
26 අශ්වාලඞ්කාර සමූහයෙන් දර්ශනීයවූ අශ්වපඞ්ක්තීන්විසින්ද
යොධ ක්‍රීඩාකරනනාවූ යොධාභරණධාරී නානාවිධ ආයුධ
27 ගත් අත්ඇත්තාවූ වීර භටපඞ්ක්තීන්විසින්ද, මගුල් වෙස්
දැරූ නානාවිධාභරණයෙන් හෙබි නරේන්ද්‍රරාජපුත්‍ර මන්ත්‍රී
28 පඞ්ක්තීන්විසින්ද, හාත්පසින් සෙව්නාලද අහෝ! යහ
පත අහෝ! යහපත අහෝ! යහපතැයි කියනනාවූ පින්
29 සොඬ්ම්නිසුන්ගේ සාධුනාදයෙන් හෙබියාවූ "මම පෙරටු
වෙමි පෙරටුවෙමි" යි කියන අහංපූර්විකාවචනයෙන් බාධා
30 නැතිව නික්මෙනනාවූ නොයෙක් නිර්මලාචාරයෙන් යහ
පත්වූ පුදමල් ආදියගත්තාවූ උපාසිකාජනයන්හා උපාසක
31 ජනයන් විසින් පෙළින්පෙළ පිරිවරණලද්දාවූ ඔවුනොවු
න්ට අධිකකොට මහාවාද කරන්නන් සෙයින් බොහෝවූ
32 බලවත් බලතුන්විසින් නැවත නැවත ක්‍රීඩාකරන්නන්
විසින්ද නැවත නැවත විශෙෂයෙන් තාඩනය කරණුල
බනනාවූ මහබලැති බලතුන්ගේ ඝොෂණයෙන් හාත්පස
33 ගිගුම් ගත්තාවූ දිසාන්තරයෙහි පැතිරයනනාවූ අතිශයින්
ශ්‍රවණීයවූ යහපත් පඤ්චාඞ්ගතූර්‍ය්‍යරාවය පවත්වනනාවූ මගල
34 පාඨකවෛතාලිකයන්විසින් පසස්නාලද්දාවූ ස්තුතිපාඨක
මාගධයන් විසින් නැවතනැවත ස්තුතිකරණලද්දාවූ දර්ශන
35 ශ්‍රවණයට ප්‍රියවූ නෘත්‍යගීතකරන්නන්විසින්ද නාටුම්හි හැ
සිරෙණ වර්ගයන්විසින්ද භක්තියෙන් හාත්පසින් සෙව්නා
36 ලද්දාවූ මහපුද පවත්වමින් නිරවුල්පරිද්දෙන් පවත්නේ
37 සරහනලද්දාවූ ඒ මගින් ගොස් පෙරතුව කරණලද ඒ ඒ
නිවාසස්ථානයට පැමින ඒ ඒ තන්හිද ධාතූන් තබා මහපුද
38 කොට කොට ඒ ඒ තැනින් නික්ම [illegible] නැවත නැවත අනු
ක්‍රමයෙන්ම ඒ මුනීන්ද්‍රධාතූන්වහන්සේලා ඒ මූල රාජධානි
යටම වැඩම කෙළේය.

39 ඉක්බිත්තෙන් නරේන්ද්‍රතෙම මුළුනුවර ඒක්සැණකෙළි
කොට යහපත් නකත් තිථි යුක්තවූ යහපත්දිනෙක්හි යහ
40 පත් මුහුර්තයෙක්හි එකල්හි දිව්‍යරාජමන්දිරයක්මෙන් සර
41 හනලද යහපත්වූ මන්දිරෝත්තමවූ ඒ පූරාතන ධාතුමන්දිර
යෙහි නොයෙක් රත්නයෙන් හෙබියාවූ මහාරත්නපර්‍ය්‍ය
ඞ්කයෙහි ඒ ධාතූන්වහන්සේලා දෙනම ආදරසහිතව මනා
කොට පිහිටවූසේක.

42 එතැන්පටන් පණ්ඩිතක්ෂත්‍රියතෙම දිනෙන් දින අධික
43 කොට සිවිදෑගඳින්ද, මනොඥවූ සුවඳදුම්න්ද, දෙඹ නා
පූවක් ඈනන්කුසුම් දීයෙන්ද, උතුම් එළියඇති ගණින්

44 ඉක්මවූ මිණිකපුරු පහනින්ද, සුවඳ තෙලින් දල්වනලද
දඬුවැට පහන්මාලාවෙන්ද, මිහිරිකිරින් පිසූ සියුම්බත් ත
45 ලියෙන්ද, කෛලාස කූටාකාරවූ සුවඳ හැල්බත් රැසින්ද,
46 සකල ඛාද්‍යභොජ්‍යලෙය්‍යපෙය්‍යාදියෙන්ද, තුන්මසක් මුළුල්
ලෙහි ලොකයාගේ සිත්ගන්නාවූ මහාධාතුපූජා ශබ්ධපූජා
සමග පවත්වා නිමවූයේය.

47 ඉක්බිත්තෙන් මිහිපල්තෙම දහස්තොටදී උපසම්පදා ම
48 ගලය නිර්මලකොට කරවම්හයි කියා එහි පළමුකොට වීර
බාහුමහීපාලයන් යවා උහුවිසින් මනොඥවූ නොයෙක් දහ
49 ස්ගණන් සඞ්ඝාරාමයන් සහ නානාවිධාලඞ්කාරයෙන් බබ
ලන්නාවූ පටතොරණින් යුක්ත උස්වූ ෂෂ්ඨිසතමහා මහමන්
50 දිරයක් කරවූකල්හි, ඒ ඒ උපසම්පදා පූජාවස්තූන්ද සියලු
සිවුපසද සර්වප්‍රකාරයෙන් සම්පාදනය කල කල්හි—පිහිටි
51 රට රුහුණුආදිය් ඒ රට වසන්නාවූ සියලු වන්‍යහිරජූන්විසින්
ආදර සහිතකොට නොයෙක් මත්‍ස්‍යමාංසාදි විවිධ ව්‍යඤ්ජන
52 යෙන් යුක්තවූ මහත් සහල් බරහා දිකිරි ගිතෙල්ද මීපැණි
ඛණ්ඩ ශර්කරා ගුඩාදින්ද යන මහසඞ්ඝයාට දුන යොග්‍යවූ
53 උපකරණයන් ගෙණකල්හි විජයබා රජතෙමේද එකල
54 එහි ගොස් “අපි උපසම්පදා මගලය කරවන්ට පටන්ගත්
55 තෙමු” “අපකෙරෙහි වන්‍යහි අතිශයින් සුප්‍රසන්න සිත්
ඇත්තාවූ යම් (ස්ථවිරාදි වහන්දෑ) කෙනෙක්වෙද්ද ඒ සියලු
56 මහාස්ථවිරයන්වහන්සෙලාද, මධ්‍යමවූද නවකවූද යතීශව
රයන්වහන්සේලා දහස්තොටට එනුපිණිස උත්සාහකෙ
57 රෙත්ව” යි ආරාධනාකොට සැමතැන දූතප්‍රෙෂණය කෙ
ළේය. තාම්‍රපර්ණීද්වීපවාසිවූ සියලුම යති රැස්හු ඒ ප්‍රවෘත්ති
ය අසඅසා මහත් සන්තොෂයට පැමින පැමින තමතමන්
58 ගේ භාණ්ඩාගාරික භික්ෂුනමකුදු හිඳිනට අවකාස නොදී
ඒ ඒ තැනින් නික්මුනහ. ඉක්බිති සජ්ජිතවූ ඒ සියලු යති
59 ශ්‍රෙෂ්ඨයෝ පිළිවෙළින් ශීඝ්‍රව දහස්තොට අවුත් රැස්වූහ.

60 එකල්හි යතීන්විසින් පිරිවරණලද ඒ දහස්තොට නැව
ත නැවත බලන්නාවූ නරෙන්ද්‍රතෙම සුලභවූ ප්‍රීතිය ලැබූ
61 යේය. ඉක්බිත්තෙන් ඒ මිහිපතිතෙම ප්‍රණීතවූ අන්න පා
නයෙන් ඒ මහාභික්ෂුසඞ්ඝයා සකස්කොට වැඩියක් මනා
62 කොට උපස්ථානකෙළේය. එකල ඒ දහස්තොටදී දවසක්
දවසක් පාසා මහපුදපවත්වන්නේ ඒ කාරක භික්ෂූන්ලවා
63 උපසම්පදා පෙක්ෂකයන්ට උපසම්පදා දෙවමින් අඩ මසක්
උපසම්පදා මගලය පැවැත්වූයේය.

64 ඉන්මතු මාහිමිපදවිය, එසේම මූල්පදවිය, මහතෙර ප
65 දවි තෙරපදවි පිරිවෙන්ආදි පදවිද ඒ ඒය ලැබීමෙහි යෝ
ග්‍යවූ සසුන්බබුළුවනාවූ යතීන්ට දෙවා ඒ නරෙන්ද්‍රතෙම
66 රාජයොග්‍යවූ යහපත් දහස්අගනා අටපිරිකරද දී එසින්
67 අත්‍යවූද සියලුම භික්ෂූන්ට පිළිවෙළින් මාහැඟි පිරිකරද
68 නැවත නැවත දී ඉතිරිවූ බොහෝ පිරිකර පඬි සොළීරට
වැසි භික්ෂූන්වහන්සේලාටද යවා පිරුණු මනදෙළ ඇත්
69 තේ "නුවන පෙරටුකොට යම් යම් පිනක් මාවිසින් කරණ
ලද්දේද ඒ සියල්ල පියරජනන් නමින්ම කරණලද්දේ
70 ය" යි දන්වා පියරජනන් වෙත දූතයෙක් යැවූයේය. මෙ
සේ හෙතෙම (මහ) වැලිගඟ දහස්තොට පුළුල්තන්හි
ශුද්ධකරණලද උදකුක්ඛෙපසීමායෙහි බොහෝවූ යතීන්ට
උපසම්පදානය කරවා එසින් භාග්‍යවත් සර්වඥයන්වහන්
සේගේ මේ නවාඞ්ගික ශාසනය බැබලවූයේය.

71 රජුන්ට උතුම්වූ ඒ පරාක්‍රමබාහුනරෙන්ද්‍රතෙමේද ලොක
යෙහි ප්‍රකටවූ ඒ ක්ෂත්‍රියපුත්‍රයාකෙරෙහි රාජ්‍යභාරය තබා
මේ මේ පරිද්දෙන් නොයෙක් පුණ්‍යසන්තතිය ඔහුලවාම
කරවා තමන්ගේ පන්තිස්වෙනි වර්ෂය පැමිනිකල ස්වර්ග
ප්‍රාප්තවූයේය.

මෙතෙකින් සුජනප්‍රසාදසංවේගපිණිස කළ මහවස
අභිසෙකමඞ්ගලාදිදීපන නම්වූ එකූන් අනූවන අදියර නිමි.

# 90 වෙනි පරිච්ඡේදය.

1 ඒ රජහු ඇවෑමෙන් සියලුම ලඞ්කාරාජ්‍යානුශාසනා ක
රන්නාවූ විජයබාහුරජහට දෙවෙනි වර්ෂයෙහි වනාහි ඒ
2 රජහුගේ දුර්මිත්‍රවූ මිත්‍රනම් එක් පවිටුවූ සෙනෙවියෙක් රා
ජ්‍යාන්තරවූ එක් දසයෙක් මිත්‍ර කොටගෙණ අල්ලසින්
3 රවටනලද සිත් ඇත්තාවූ උහුලවා රාජ්‍යලොභයෙන් එක්
4 දිනක් රෑ ඒ නරෙන්ද්‍රයා මැරවූයේය. එකල්හි ඒ රජහු
මල් භුවනෙකබාහුරජතෙම එපවත් අසා දඹදෙණිපුර

5 යෙන් නික්ම බියෙන් පිළිසන්යානාවකට නැගී යහපව්
6 දුශ්යව යන්ට ආරම්භකෙළේය. එකල්හි එම දුෂ්ටවූ මිත්ත
නම් සෙනාධිපතිය අතින් ආදියෙහිම අල්ලස්ගෙණ යම්
7 කෙනෙක් යෙදුනෝද ඒ දුෂ්ට කර්කශවූ නවබෑ මුනිසී
නමැතියෝ වහාම ලුහුබැද යන්නෝ යම්සේ සියලු අත්දෙ
8 රැපටිආදිය සුන්වේද එපරිද්දෙන් ඒ භූපාලයානන්ගේ යා
නාවට කරුණාරහිතව තීක්ෂණ ශස්ත්‍රයෙන් බෙහෙවින්
9 පහරදුන්හ. එකල ඒ මිහිපතිතෙම ඒ යානාවෙන් බිමට
10 පැන භයරහිතද්වයේ වේගයෙන් කළුගලගමට පැමිනත්
එහි ඇතුන්බඳනා ඇත්හල උතුම්වූ ඇතෙකු ගෙණ ඒ
11 ඇතුනැගී ගොස් ඉන්පසු ජලෞඝයෙන් පිරුණුවූ කොළ
12 බුන්නම් මහහොය තරණයකොට යාපව්වටම ගියේය, එ
කල ඒ මිත්තනම් සෙනෙවිතෙමේද දඹදෙණි පුරයෙහි මහ
13 රජගෙට පිවිස එහි යහපත්වූ සිංහාසනයෙහි හිඳ දුෂ්ටාභිලා
ශයඇතියේ රාජාභරණයෙන් සැරසුනාවූ තමන් සියලු සේ
නාවට දැක්වූයේය.

14 ඉක්බිත්තෙන් උහු කෙරෙහි ස්නේහඇති යම් අමාත්‍ය
කෙනෙක්වූද එකල ඒ සියල්ලෝ රැස්ව ඔවුනොවුන් අනුව
15 පවත්නෝ "ස්වදෙශිකවූද පාරදෙශිකවූද සියල් සේනා
වය මනාකොට පඩිදීමෙන් සර්වප්‍රකාරයෙන් සඞ්ග්‍රහකරම්
16 හ" යි සිතා සියල්ලන්ට ප්‍රථම "ඨකුරකා" දීවූ ආර්යක්ෂත්‍රිය
17 යොධයන්ට පඩිදෙන්ට පටන් ගත්හ. "හැමකල්ම අපිසිය
18 ල්ලෝ සඞ්ග්‍රහකටයුතුබවට පැමිනියම්හ තොපවිසින් සර්ව
ප්‍රකාරයෙන් සිංහලයොධයෝම බැලයෙන් සඞ්ග්‍රහකටයුතු
19 ය නැවත නැවත සතුටුකටයුතුය" යි කියා ඒ (ආර්යක්ෂත්‍ර)
සියල්ලෝ එකල බැලනොගත්හ. "එසේ වේව" යි කියා
20 එකල එහි විසූ සියලු සිංහල යොධයන්ට පඩිදී ඉක්බිත්
තෙන් ඔවුන්ට පඩිගන්ට කීහු. ඉන්පසුත් ඒ සියල්ලෝ
"පඩි පසුවද දෙනුලැබේවා මෙවර නො ගණුම්හ" යි කියා
21 ප්‍රතික්ෂෙපකළහ, ඒ සියල් ඇමතියන්විසින් සර්වප්‍රකාරයෙන්
නැවත නැවත පඩිගැණිම්හේතුවූ නිබන්ධනය බෙහෙවින්
22 කළකල්හි——ආයුධයෙන් සැදුනාවූ සත්සියයක් ඒ සියලු
ආර්යක්ෂත්‍රියයෝ "අපි සියලලම රජහු අභිමුඛයෙහි සිය
23 න්නෙමුය" යි රජගෙට ගොස් එහි සිංහාසනයෙහි උන්
නාවූ මිත්තසෙනාධිපතියා දැක ආදරසහිතව ක්ෂණයක් සිටි
24 යෝය. ඉක්බිත්තෙන් බියරහිත සිත්ඇති ඨකුරකනම්
යොධතෙමේ එකල්හි යහළුවන්ට සංඥාදී තමන්ගේ තී
25 ක්ෂණවූ කඩුවගෙණ එකෙණෙහි වහාම ඒ සෙනෙවියාගේ

හිස කපා පොළොතෙලෙහි හෙළීය. ඉක්බිත්තෙන්
26 ඒ පුරයෙහි මහාකොලාහල උපන්කල්හි මහබලැති සිය
ලුම සිංහලයොධයෝකැටිව “කුමක්හෙයින් මේ නොකට
27 යුත්ත තොපවිසින් කරණලද්දේද” යි ඪකුරකයා ප්‍රමුඛවූ
28 ආය්‍ය්‍යීයොධයන් පිළිවිසියෝය—නැවත ඔව්හූ “යහපව්
වැසි භුවනෙකභුජෙන්‍ද්‍රයාගේ නියොගයෙන් මෙය කරණ
29 ලද්දේය” යි කීහු—“එසේ වේව” යි කියා ආය්‍ය්‍යීය සිංහ
ලය යන (උභය පක්‍ෂගත) සියලු යොධයෝ සමගිව භුව
30 නෙකභුජෙශ්වරනරෙන්‍ද්‍රයන් එකල ඒ ශුභාචලපුරයෙන්
දඹදෙණිපුරයට වඩාගෙණවුත් ආදර සහිතව ඒ කුමරහු
31 අභිෂෙකකළහ—එතැන්පටන් ඒ රජතෙම සියලුම
උභයසේනාව වෙත ධනාදියදීමෙන් තමන් පක්‍ෂපාතකො
32 ට කාලිඟරායරය චොඩගඟදේවය යනාදිවූ මුහුද එතරින්
අවූත් ලක්දිව්බැස්සාවූ සියලුම දෙමළ සතුරන්ද කදලිවා
33 ටය, ආපානය, තිපය, හිම්යානකය යනාදිවූ සිංහල වන්නි
රජුන්ද පහකොට ලඞ්කාව සතුරුකටු නැතිකොට අවුරුදු
34 කීපයක් දඹදෙණි නුවර වාසයකොට ඊටඅනතුරුව යහපව්
35 නුවර ගොස් එහි සෞභාග්‍යයෙන් බබලන අතිශයින් විස්තී
ණීවූ රාජධානියක් කරවාගෙණ එහි වාසය කෙළේය.

36 ඉක්බිත්තෙන් ධර්‍මනීතියෙන්ම සියලුජනයා රජනය
කරනනාවූ රජතෙමේ ධාර්‍මිකද බුඬශාසනයෙහි සුප්‍රසන්
37 නද වූයේය; ඒ නරෙශ්වරතෙමේ ධර්‍මපුස්තකයන් ලියන්
නාවූ නුවනැත්තන්ට බොහෝවස්තුදී සියලුම ත්‍රිපිටකය
38 ලියවන්නේ ලඞ්කාද්වීපයෙහි ඒ ඒ ප්‍රදෙශයෙහි විහාරයන්හි
තබ්බවා පාලිධර්‍මාභිවෘද්ධිය කරවූයේය· මහීපතිතෙම බො
39 හෝසේ කරණලද උදාර පූජාසත්කාරයෙන් භාග්‍යවරවූ ලො
කයට ශුභවූ උපසම්පදා මඞ්ගලය කරවා තුන්ලෝවැසියන්
40 විසින් පිදියයුතු අග්‍රමහිමඇති බුඬශාසනය විපුලත්වයටද
විශෙෂයෙන් හටගැණීමටද සම්ප්‍රාප්තකෙළේය—දවසක්
41 දවසක් පාසා දළදා මහපූදක් පැවැත්වූයේය. සිවුපසයෙන්
42 භික්‍ෂුසඞ්ඝයාද උපස්ථාන කෙළේය—යහපව් පුරවෙසෙ
මින් මේ මේ පරිද්දෙන් යහපතකොට ඒ (විජයබාහු) රජ
තෙමේද එකොළොස් හවුරුද්දක් රාජ්‍යය කොට දෙව්ලොව
ගියේය.

43 සායක් හටගන්නාකල්හි පඬිරට අනුශාසනා කරන්නාවූ
පස්බෑරජදරුවන් විසින් සේනාවසමග මෙහෙයනලද්දාවූ
44 අනාය්‍ය්‍යීවූනමුදු ආය්‍ය්‍යීචක්‍රවර්ත්තීයයි ප්‍රසිඬ ද්‍රවිඩාධිපතිවූ මහ
බලැති මහඇමතියෙක්තෙම (ලක්දිව්) බැස ඒ (යහපව්)

45 දෙස රට ඔබමොබ පැහැරගෙණ මහදුගීවරයඩ්‍ යහපව්
46 පුරයට පිවිසියේය.—— දංෂට්‍රාධාතුස්වාමින්ද එහි සියලු සාර
47 ධනයද ගෙණ නැවනී නැවත පඬිරටම ගියේය. හෙතෙම
එහි පඬිමහරජවස්නැමැති පියුම් (පොබයන) හිරුවැනිවූ
48 කුලශෙඛර රජහට ඒ දංෂ්ට්‍රාධාතුව දුන්නේය.
එකල බෝසත් විජයබාරජනන්පුත්‍රවූ ඒ මහත් සෑඩිඇති
49 පරාක්‍රමබාහුමහරජනන්ටද මුනුබුරුවූ පරාක්‍රමභුජනම්වූ
රජතෙම ලඞ්කාවිපවාසී සත්වයන්ගේ සන්තාප වලකනපිණි
50 ස මෙඝයක් සෙයින් උතුම්රජුන්ගේ ප්‍රධානවූයේ ශීතච්ඡායා
යෙන් මනොඥවූ ෂොඩශකලාපරිපූර්ණ චන්ද්‍රබිම්බානුකාරීවූ
51 (ශ්වෙත) ච්ඡත්‍රය එසවූයේය. ඉක්බිත්තෙන් ඒ තෙමේ තා
මන් කුලයේ පූජනීය අග්‍රදේවතාවූ පඬිරටපැමිනි මුනීන්ද්‍ර
52 දන්තධාතුව "ඒ රටින් කවර උපායකින් (මෙහි) ගෙණඑ
න්ට හැක්කෙම්ද" යි සිතා සාමය හැර අන්‍යවූඋපායක් නො
53 දක්නේ දක්‍ෂවූ කිසියම් යොධතෙනෙකුන් සමග නික්ම ඒ
පඬිරට ගොස් පඬිරජහු දැක දවසක් දවසක් පාසා උහුහා ආ
54 ලාප සල්ලාපයෙන් සතුටුකොට ඒ රජහු අතින් දන්තධා
55 තුව ගෙණ නැවත ලක්දිව්ට අවුත් පුලස්තිපුරවරයෙහි
56 පූර්වවූ දන්තධාතුමන්දිරයෙහි ඒ දළදාව පිහිටවූයේය. ඉක්
බිත්තෙන් ඒ මිහිපල්තෙම ඒ පුරයෙහි වාසය කොට රාජනී
57 තිය නොඉක්මවා රාජ්‍යයකරන්ට ආරම්භකළේය. * ඒනරෙ
න්ද්‍රතෙමේ දවසක් දවසක් පසා දළදා පූදකරනෙන් අප්‍රමාද

---

* (57 වෙනි ගාථාව පටන් 63 න් වැනගා දක්වා ඇතැම්
පොත්වල තිබෙන ක්‍රමය මෙසේය.)
ශුභපර්වත පුරාධීශවරවූ භුවනෙකබාහුනරෙන්ද්‍රපුත්‍රවූ භුව
නෙකබාහු නම්වූ කුමාරතෙමේද අනාගත කාලයෙහි රාජ්‍ය
යෙහි ලොභකරනෙය්‍යයි නැවත නැවත සිතනෙත් කිසි
යම් කලෙක වනාහි ඒ රජතෙම තමන් කනිෂ්ඨභ්‍රාතෘවූද
ඒ රාජකුමාරයාගේ ඇස් උපුටවන්ට රාජමනුෂ්‍යයන්හා කර
නැවැමියා මෙහෙයූයේය. කරනැවැමිතෙම එකල උහු කො
රෙහි.........සතතයෙන් භික්‍ෂූන් දහසකට පිඩීමෙහි දන්
වැට තැබූයේය. නරෙන්ද්‍රතෙම අවුරුදුපතා රාජාග්‍රසම්පත්ති
යට යොග්‍යවූ තමන් කිරීටමඞ්ගලය කරවා ඊට අනතුරුව
පොසොන්මස ශ්‍රෙෂ්ඨපූජ පෙරටුවූ උපසම්පදාව පවත්වන්
නේ බුද්ධශාසනය බැබලවූයේය. බොහෝ අටපිරිකරද එසේ
ම කෙළින්සිවුරුද බොහෝභික්‍ෂූන්ට අවුරුදුපතා දෙවූයේය.

58 යෙන් අම්තුවූ පුණ්‍යරාශිය රැස්කෙළේය. චීවරාදිප්‍රත්‍ය
යෙන් භික්‍ෂුසඞ්ඝයා උපස්ථානකොට ලොකශාසනාභිවෘද්ධිය
59 කොට මරණප්‍රාප්තවූයේය.——ශුභපර්‍වත පුරාධිපතිවූ භුව
නෛකබාහුනරෙන්ද්‍රයානන් පුත්‍රභුවනෛකබාහු ක්‍ෂත්‍රියතෙම
60 හස්තිශෛලපුරයෙහි (කුරුණෑගල්නුවර) රජවූයේය, පින්
කැමතිවූ දනාදි කුසල්හි ඇලුනාවූ ජනෙන්ද්‍රතෙම සතත
61 යෙන් භික්‍ෂූන් දහසකට පිසීමෙහි දනොපකරණ තැබූ
යේය. රජතෙමේ අවිරුද්දක්පාසා රාජශ්‍රීසම්පත්තියට යො
62 ග්‍යවූ තමන් මෞලිමගලය කරවා ඊට අනතුරුව පො
සොන්මස ශ්‍රෙෂ්ඨපූජාපෙරටූ උපසම්පදා කරවා බුඩශාසනය
63 බැබලවූයේය, ඒ භුවනෛකබාහුනරෙන්ද්‍රතෙමේද මේ ආදි
නොයෙක් පින් නොයෙක් පරිද්දෙන් කොට දෙවෙනි වර්‍ෂ
64 යෙහි අනිත්‍යභාවයට පැමිණියේය. ඒ රජහු අනිජාතපු
ත්‍රවූ වික්‍රමාඞ්ක පණ්ඩිතවූ ඒ පැරකුම්බා කුමරතෙමේ
65 ද ඒ පුරවරයෙහි රජවූයේය. රත්නත්‍රයෙහි ප්‍රසන්නවූ ඒ
තෙමේ භික්‍ෂූන් රැස්කරවා නොයෙක්වර උපසම්පදා කර
වූයේය.

66 ඉක්බිත්තෙන් ඒ නරෙන්ද්‍රතෙම රාජාඞ්ගනයෙහි බිතුවැ
67 ඩින් මනහරවූ විසිතුරු සිත්තම්ඇති රන්කොතින් යුක්ත
වූ රන්දෙරබාවෙන් සශ්‍රීකවූ සිත්කළු තුන්මහල් දළදාමැ
68 දුරක් කරවා ඉක්බිති එහි විසිතුරු වතින්හා පටපිළි ආදි
69 යෙන් වියන් බඳවා නැවතත් එය එල්බෙන සිත්කළු රන්
මාලාවෙන්හා එසේම රිදීමාලාවෙන්ද මුතුමාලාවෙන්ද ස
70 රහා හෙබියාවූ කෞශෙයජවනිකාප්‍රාකාරයක් බඳවා යළිත්
71 එහි විසිතුරු රුවනින් බබලන පර්‍ය්‍යඞ්කයක් පණවා ඒ හා
72 ත් පසද රන්රිදී කලසමාලාවෙන්ද සරසා ඉක්බිත්තෙන්
73 එහි දළදා කරඬුවහා පාදකරඬුව ආදරසහිතව පිහුටුවා
නොයෙක් මල්සුවඳින්හා සුවඳ දුම්පහනින් බබලනනාවූද
74 සකල ඛාද්‍යභොජ්‍ය ලෙය පෙයයෙන් සඳනලද්දවූද වාද්‍ය
මහමාන පඤ්චාඞ්ගතූර්‍ය්‍යශබ්දයෙන් ශොභමානවූද නානාප්‍රකාර
75 ස්තුතිපාඨකයන්විසින් ආරබ්ධවූ නෘත්‍යගීතයෙන් මනහරවූද
ජගදනන්දකරවූ සර්‍වඥධාතුපූජා මහොත්සවය දවසක් පාසා
මැනවින් පවත්වන්ට ආරම්භකෙළේයි.

76 නොයෙක් ගම්කෙතින්හා දැසිදස් ආදිවූත් ඇත්අස් ගවම
77 හිසාදිවූත් (සර්‍වඥධාතුවසතුයෙන්ද) ධාතුපූජාකරවූයේය.
"සකලලොකාග්‍රනායකවූ සම්‍යක්සම්බුඩයන්වහන්සේ ජීව
78 මානකල්හි උන්වහන්සේට යම් චාරචාරිත්‍රයක් ඇතිවීද එය
දන්තධාතුන්වහන්සේට මෙතැන්පටන් වේව" යි සිතා රජ

79 තෙමේ එය ප්‍රකාශකරනනාවූ “දළදාධාතුචරිතත” නම්වූ ග්‍රන්ථයක් ස්වබුද්ධින් සිංහලභාෂායෙන් තනා ඒ ග්‍රන්ථානුසාර
80 යෙන් ධාතූන්වහන්සේට දවසක් දවසක් පාසා දිනචාරිත්‍රය පැවැත්වූ යේය. ඉක්බිත්තෙන් ඒ රජතෙමේ සොළීරටින්
81 ආ නානාභාෂාහි විසාරදවූ තර්කාගමධාරී මනාව හික්මුනු එක් මහතෙරකෙනෙක් රජගුරුතන්හි තබා උන්වහන්සේ
82 වෙත සියලු ජාතකයන් නිරන්තරයෙන් අසමින් ඉගෙණ
83 එහි අර්ථද ධාරණයකොට ඊට අනතුරුව ශුභවූ ඒ සියලු පන්සියපණසක් ජාතකයන් පාළිභාෂාවෙන් ගෙණ සිංහල
84 නිරුක්තියට ක්‍රමයෙන් පෙරලා පිටකත්‍රයධාරීවූ මහාස්ථවිර යන් මැද අස්වා පිරිසිදුකොට ලියවා ලක්දිව හැමතැන පැ වැත්වූයේය.

85 යළිත් ඒ ජාතකයන් ස්වකීය ශිෂ්‍යපරම්පරාවෙන් පාලනය
86 කෙරෙමින් පවත්වනුපිණිස ආරාධනාකොට ප්‍රාඥමෙධඞ්ක
87 රාභිධාන එක් ස්ථවිරකෙනෙකුට දෙවිය. ඒ රජහුගේ ස්වකීය නාමයෙන්ම පිරිවෙණකුත් කරවා-පරණගම, තැඹිලිහොල, දෙල්මඩ, මොරවක යන මේ ගම්සතරද හේතෙමේ දෙ
88 විය. මහාවිජයබාහු නරේන්ද්‍රයන්විසින් තොටගමුවිහාර යෙහි කරවනලද සතළිස්පස්රියන් අයම්වූ දීඝීප්‍රාසාදයතෙම
89 යම්තැනෙක්හි භාත්පසින් ජීර්ණවිද එතන්හි නැවත ඒ
90 පරාක්‍රමබාහුනරේන්ද්‍රතෙම තිස්රියන් අයම් යහපත්වූ තුඟු කැරලිඇති දෙමහල් දිඝුපහයක් කරවා නානාවිධ චිත්‍ර
91 කර්මයෙන් භාස්වරවූ ඒ පහය එකල විජයබාහු පරිවෙ ණාධිපති කායසජ්ජිනම් පින්වත් මහාස්ථවිරයන්වහන්සේට
92 පැමිනවූයේය. ගිම්ගඟ ඉවුරවෙත පවත්නාවූ සල්ගමුනම්වූ එක් ගමක්ද ඒ පිරිවෙණ අයත්කොට දෙවූයේය. හේ
93 තෙමේ පන්දහසක් නෙරළු තුරින්යුක්තවූ අරමක් මනරම්වූ තොටගමුවෙහි කරවූයේය.

94 ඉක්බිත්තෙන් හේතෙමේ දෙව්නුවර මනොඥ චාරවයක්
95 ඇත්තාවූ දිඝුදෙමහල් සිංහශයනප්‍රතිමාමන්දිරයක් කරවා ඊ වටාපිහිටි ආරාමයද ගැටමානානනම්වූ එක් ගමක්ද බුද්ධා යත්තකොට දෙවූයේය.

96 මිහිපතිතෙමේ වැලිගම්වෙහෙර තමන් නමින් පරාක්‍රම
97 භුජාභිධානවූ දෙමහල් දිඝුපහයක් මහසඟ සතුකොට ක රවා ඒ වෙහෙරට ඇල්ගිරිනම්වූ මහාභොගග්‍රාමයක් දුන්
98 නේය. රත්ගම්පුරසමීපයෙහි යහපත්වූ විදුම්ගම පිරිවෙන් යුක්තවූ බෝ පිළිම මැදුරු සහිතවූ උතුම් ශ්‍රීඝනානන්දනම්
99 වෙහෙරක් කරවා තමන් ආචාර්‍ය්‍යවූ සොළීරටින් වැඩි මහ

100 තෙරුන්වහන්සේට දෙවූයේය. ඉක්බිති ඒ රජතෙමේ මා
101 යාදුනුනම් සිත්කළු රට මනා පව්රු දෙරටු ඇති අළුත් නු
වර කොට එහි ප්‍රාකාර ගොපුරවාර යුක්තවූ උස් කොත්
102 ඇති දෙමහල් දෙවාලයක් මනරම්කොට කරවා එහි උපුල්
103 වන් දෙව්රජහුගේ බබලනරූපය පිහිටුවා මහපුද පැවැත්
වූයේය. ඒ නරෙන්‍ද්‍රතෙමේ මේ ආදී මහත් ලොකශාසන
සඞ්ග්‍රහයද නොයෙක් පින්කම්ද කොට මරහු වසඟවූයේය.
104 පූර්වයෙහි කරණලද පින්බල සහිතවූ හේතෙමේ ලද්දාවූ
අසාර ධනයෙහි ලොභය හැර ආත්මාර්ථාදියෙහි ඇ
ළුනේ සියලු කුසල් කෙළේය. ශ්‍රද්ධාව ධනකොට ඇත්තාවූ
සාධුජනයෙහි ආත්මාර්ථයහා සර්වාහිතත්‍වයද සිතා දාන
ශීල ප්‍රමුඛවූ පූණ්‍යයන්කොට ගණිව්.
105 ඒ රජු ඇවෑමෙන් වනහිභුවනෙකබාහුනම් නරෙන්‍ද්‍රයෙක්
තෙමේද වූයේය. ඒ රජු ඇවෑමෙන් මහබලැති විජය
106 බාරජතෙම වූයේය. මේ රජදරුවන්ගේ ඇවෑමෙන් මහ
වැලිගඟ සමීපයෙහි මනරම්වූ ගඟ සිරිපුරයෙහි මහා ප්‍රඥ
107 සන්තාන ශ්‍රද්ධාඇත්තාවූ සහපත් ගුණයන්ට ආකරවූ සත
රවෙනි භුවනෙකබාහුනම්වූ මහිපාලයෙක්තෙම වූයේය,
108 ඒ රජහුගේ සතරවෙනි වර්ෂයෙහි සර්වඥයන්වහන්සේගේ
පිරිනිව්මෙන් එක්දහස් අටසිය අනුසතර අවුරුද්දක් ඉක්මි
යේයසි ක්‍රමදක්නනුවිසින් දතයුතෙත්ය.

109 පූර්වයෙහි නරෙන්ත්‍රමයෝ තුමූ දුකසේ ලැබියයුතුවූ අති
ශයෙන් දුලීභවූ බුද්ධකාලය ලැබ සතතයෙන් ප්‍රමාදරහිතවූ
වෝ දානාදිවූ නොයෙක් කුසල් කොළෝයයි දැන තෙපිදු
මනා කොට සියලු කුසල් කරව්.

මෙතෙකින් සුජනයාප්‍රසාදසංවෙගපිණ්ස කළ මහවස
විජයබාහුආදි අටඪරාජදීපනනම්වූ අනූවන අදියර නිමි.

---

# 91 වෙනි පරිච්ඡේදය.

---

1 ඒ රජු ඇවෑමෙන් ඒ පුරයෙහිම පරාක්‍රමබාහුය, පණ්ඩි
2 තවූ වීරබාහුයයි රජ දෙදෙනෙක්වූහ——ඉන්පසු මහවැලි
ගඟ සමීපයෙහි සිත්කළුවූ පේරාදෙණි යන නාමයෙන්
3 ප්‍රසිද්ධවූ යහපත් පුරයෙහි වික්‍රමබාහුනම් මහරජනන්ගේ
කාලයෙහිම ගිරිවංශාභිජාතවූ මහපැණැති ඒ අලගක්කෝ
4 නාරනම්වූ තෙජස් හා ශ්‍රද්ධාදි ගුණාභරණ ඇත්තාවූ ප්‍රභු
රාජතෙමේ වූයේය. මහාබලැතෙත් ලොක්ශාසනාභිවෘද්ධිය
5 කරණු කැමැතෙත්——"කැලණිපුරීතොමෝ ප්‍රාසාද බෝ
ධිවෘක්ෂහා උත්තම චඞ්ක්‍රමණශාලා ප්‍රතිමාමන්දිර චෛත්‍ය
යෙන්ද, සිත්කළු සල්පිළින්ද, අතිශයින් සිත්කළු ගොපුර
6 චාර තොරණයෙන්ද බබලයි" මේ ආදීන් වර්ණනාකරණ
ලද්දූවූද, සර්වඥයන්වහන්සේවිසින් සෙවුනා ලද්දූවූ කැල
ණිනම් පුරයෙහුදු දකුණුපස බුද්ධාදියෙන් යුක්තවූ ජන
7 යන් විසින් වාසය කරණලද යහපත් ස්ථානයෙහි දරමාගම
සමීපයෙහිවූ මහවිලෙහි මහපවුරු වලලෙලන්හා දොර
කොටු ආදියෙන් හෙබියාවූ ජයවර්ධනකොට්ටනමින් ප්‍රසිද්ධවූ
නුවර කෙළේය.

8 පින්කැමති මහබලැති හේතෙමේ එහි වෙසෙමින් ශාස
නාභිවෘද්ධි ආදිවූ බොහෝ පින් කෙළේයි——ඒ පස්වෙනි
9 භුවනෙකබාහුරජ ඒ පුරයෙහි විසීය. ශ්‍රද්ධා ඇත්තේ
සතතයෙන් ආදර ඇතිව බුද්ධාදි රතනයන් පුදන්නේ ස
10 ඞ්ඝයාට නිතිබත් ආදි දානය අනල්පකොට දෙන්නේ ශාස
11 නාභිවෘද්ධි කරණයට භික්ෂූන් රැස්කොට විචාරණය කොට
දුස්සීලයන් සිවුරු හරවා ලජ්ජීන්ට සඞ්ග්‍රහකොට බලදී බුදු
සස්න බැබලවී.

12 රිදී සත්දහසකින් කරඬුවක් කරවා දන්තධාතුව වඩා
සතතයෙන් ආදර ඇතිව පූජාකරන්නේ විසි හවුරුද්දක්
13 රාජ්‍යයකොට එකල නිමවිය. ඒ රජහුගේ සුහුරුවූ වීර
14 බාහුයයි ප්‍රසිද්ධවූ (ක්ෂත්‍රිය)යෙක්තෙම රාජ්‍යයට පැමිනියේය.
හේතෙමේ ශාසනාභිවෘද්ධි ආදිවූ සියල්ල එසේම කොට
15 මෘත්‍යුරාජයාහට වසඟවිය, ඉන් මෑතභාගයෙහි ශ්‍රීමත් සම්‍ය
ක්සම්බුද්ධයන්වහන්සේගේ පිරිනිවීමෙන්ද එකදහස් නව
16 සියයකින් මතු තෙපණස්වෙනි වර්ෂයෙහි සූර්‍ය්‍යවංශයෙහි

උපන්නාවූ ඒ පරාක්‍රමබාහු නරේශ්වරතෙම ජයවර්ධනනම් ර
ම්‍යවූ පුරයෙහි අග්‍රොත්තමොදාරවූ රාජ්‍යශ්‍රියට පැමිණ ශ්‍රද්ධා
17 වෙන් රත්නත්‍රයෙහි පූද පටන්ගත්තේය.—ඒ මහීපතී
තෙම මුනීන්ද්‍රයන්වහන්සේගේ දළදාව උදෙසා තුන්මහල්
18 මනරම්වූ රුචිරදර්ශන ඇති ප්‍රාසාදයක් කරවා නවරත්න
යන් මනාකොට බඳනාලද රන්කරඬුවක්ද එය වසා නා
නාප්‍රකාර කාන්තියෙන් බබලන්නාවූ උතුම් මැණික් බඳනා
19 ලද අන්‍යවූ රන්කරඬුවක්ද හෙද ඇතුල්කොට රන්ක
රඬුවක්ද කෙළේය. අතුල්‍යවූ මහත් උතුම් කරඬුවක්ද
කොට උතුම් කාන්තිමත් සුවර්ණයෙන් ලෙපකොට බව
සුවහා නිවන්සුව පතන්නාවූ ඒ රජතෙමේ ඒ උතුම් කරඬු
20 සතරෙහි දළදාව වැඩුයේය.—සර්වඥශාසනවරයෙහි පවි
ත්‍රාදර සහිතවූ රජුන් විසින් කරණලද ලඞ්කාවීපයෙහි පූද
සිහිකොට "මමද එසේම අනලස්වූයේ රාජ්‍යයෙහි සියලු
21 ලාභයෙන් ඒ රත්නත්‍රය පූදමැ" යි සිතා ආදර සහිතවූ හේ
තෙමේ ශ්‍රද්ධායෙන් සර්වප්‍රකාරයෙන් ධාතු පූජාදිය කෙළේයි.
22 සඞ්ඝයාට අටපිරිකරහා නිතිබත්ද, මාසයක් මාසයක්පාසා
පූජාද, අවුරුදුපතා තුන්රට භික්ෂූන්ට කඨින චිවරදාන
23 යද, ශ්‍රද්ධාවෙන් මහදන්ද, අවුරුද්දක් පාසා සිවුරුද, දෙවා
පින්කැමති මහායසස් ඇත්තේ පින් රැස්කෙළේයි. පින්
24 ඇත්තාවූ හේතෙමේ තමන් මෑනියන් නමින් ඒ පැපිළියා
25 නෙහි සුනෙත්‍රදෙවිනම් පිරිවෙණද, සඞ්ඝාරාමයක්ද, කරවා
26 බොහෝ ගම් කෙත්ද පූද තුන්රටින් ආවාවූ යතීන්ට තුන්
දිනක් උතුම් සාඞ්ඝිකදානයක් දෙන්ට එහිම (දන්වැට) ත
බ්බවා පූර්ණ්‍යරාශියක්ද මොනවට කෙළේයි.
27 අටුවා හා ටීකාසහිතවූ උතුම් පිටකත්‍රය පාළියද ලියවා
සර්වඥයන්වහන්සේගේ ශාසනයට සඞ්ග්‍රහ කෙළේය. ඒ
28 නරේන්ද්‍රතෙම එකල්හි සද්ධර්මපුස්තකයන්ම දවසක් දවසක්
පාසා ලියනු පිණිස ලිපිකරුවන්ට ග්‍රාමාදිය දුන්නේය. ඒ
29 ඒ තන්හිම මහ්‍යඞ්ගනචෛත්‍යාදි චෛත්‍යයන්හි ඛණ්ඩ
ඵුල්ලපට්සඞ්ඛරණාදිවූ කර්මයන්හා සුණුවම්ද කරවූයේය,
30 එසේම ගඩලාදෙණි අරම් ලඞ්කාතිලක විහාරාදියෙහි සි
යලු සුණුවම් ආදිය එකල්හි කරවූයේය. නොයෙක් වර
31 මහසෑණකෙළි කරවා මහා පූජාද කරවා උපසම්පදා මඞ්ග
32 ලය කරවය. ඒ නරේන්ද්‍රතෙම රාජ්‍යභාරයලබා එහෙයින් දෙ
33 පණස් හවුරුද්දක් බොහෝ කුසල් කරන්නේ විය ඒ පණ්ඩිත
තෙමේ සව්සිදහස් එකසිය සතළිසක් තුන්සිවුරුද, අතිකුඩු
34 පරිෂ්කාරයන්ද, පිරිවරකොට තුන්දහස්සාරසිය දෙතිසක්

කඨිනචීවරයන් භික්‍ෂුසඞ්ඝයාට ශ්‍රද්ධාවෙන් දුන්නේය—
35 රත්නත්‍රයෙහි ප්‍රසන්නවූ ඒ නරේන්ද්‍රතෙම බුද්ධශාසනය කෙ
රෙහි මමත්වය ඇත්තේ අප්‍රමාණවූ ධනය දී නානාවිධ
කුසලකර්‍මකෙළේයි.

36 ශ්‍රද්ධා ප්‍රඥා කරුණා බහුලවූ ගුණනැමති උතුම් රත්නයන්
ඇත්තාවූ පුද්ගලතෙමේ ලද්දභොගයන් අසාර වශයෙන්
දන්නේ සතතයෙන් අනලස්වූයේ නොයෙක් පින් මෙසේ
කෙළේයයි දැන ආත්මකාමීවූ භවසුවහා නිවන් දන්නාවූද
පතන්නාවූද තෙපි නානාවිධ සුඛදායකවූ පුණ්‍යරාශිය මො
නවට කොටගණිව්.

මෙතෙකින් ශුදිජනයා ප්‍රසාදසංවෙගපිණිසකළ මහවංශ
පරක්කමභුජාදිචතුරාජදිපනනම්වූ එක්අනූවන අදියරනිමි.

---

# 92 වෙනි පරිච්ඡෙදය.

---

1 ඒ රජ්ජු ඇවෑමෙන් උහු මුනුබුරුවූ ජයබා කුමරතෙම රජ
2 වී, ඔහු නසා බුවනෙකබා කුමරතෙමේ මිහිපල් වූයේය.
සම්ප්‍රාප්තරාජාභිෂෙක ඇත්තාවූ හේතෙමේ සත්හවිරුද්දක්
විසූයේය. ඒ රජ්ජු ඇවෑමෙන් පණ්ඩිත බැවින් පණ්ඩිතයයි
3 ප්‍රසිද්ධවූ, පැරකුම්බා කුමරතෙමේ යහපත්වූ ඒ පුරයෙහි රජ
4 විය, ඊට ඉක්බිතිවද වීරපරාක්‍රමබාහුයයි ප්‍රසිද්ධවූ කුමාරයෙක්
තෙම රජවී ඒ රජ්ජු ඇවෑමෙන් ගුණ නැමති ආභරණ
5 යෙන් සැරසුනාවූ විජයබා කුමරතෙම රජවිය. මේ රජ
6 දරුවෝ තුමූත් ශ්‍රද්ධානුගුණශක්තිවූ පරිද්දෙන් ලොකශාස
නාභිවෘද්ධිය කොට කම්වූපරිද්දෙන් පරලොව ගියහ—ශ්‍රී
සඞ්ඝබොධි මහරජානන්ගේ ගොත්‍රයෙහි උපන්නාවූ වීරවි
7 ක්‍රමනම්වූ කුමාරයෙක්තෙම සර්‍වඥයන්වහන්සේගේ පිරිනිවී
මෙන් දෙදහස් අසූපසක් ගෙවුනකල්හි මහබලැතියේ මහා
8 වැලිගඟ නැමැති අගලින් අලඞ්කෘතවූ සෙංකඩගල සිරි
වඩනනම් පුරයෙහි රජවිය. එකල එහි වසන්නාවූ ඒ රජ
තෙම සිවුසඟරාවතින් ජනයන් රඤ්ජනය කොට ශ්‍රද්ධායෙන්
9 පින්කම්කරන්ට ආරම්භකෙළේය, තමන්ගේ රජගෙයින් ඉතා

10 දුරුනුවූ සිත්කළුවූ භූමිභාගයෙක්හි මුනීන්ද්‍රයන් වහන්සේ ගේ (පාත්‍ර) ධාතුව වඩා හේතෙමේ චෛත්‍යයක්ද ඒ සමීප
11 යෙහි උළුසෙවිලිආදියෙන් යුක්තවූ දෙමහල් පොහෝ
12 මළුවක්ද කරවා නුවර හාත්පස අසූ සයක් සඞ්ඝාවාසයන්ද කරවා ඒ ඒ තන්හි භික්ෂූන් වස්වා උපස්ථාන කොට බුඩ්දෙ
13 සිතවූ සඞ්ම්මය ඇසුයේය. හේතෙමේ උදාරවූ පූජා කොට පස් පණසක් පමණ සර්‍වරාත්‍රියෙහි නියන්නාවූ ධර්‍මයන්ද ඇසුයේය.

14 තිස්දහසක් පත්‍රයන්හි පොත් ලියවා සැටදහසක් පමණ
15 ධනයෙන් ත්‍රිපිටකයද පිදුයේය. එක්සිය අසූවක් සර්‍වඥ ප්‍රතිමාවන්ද, ධාතුන් වඩන පිණිස එක්සිය සතළිසක් කර
16 ඬුද කරවා පූණ්‍යරාසියද රැස්කෙළේයි. හේතෙමේ ස්ව කීය පුරයෙන් නික්ම ස්වකීයපාදබලයෙන් එක දවසින්ම
17 සත්ගව්වක් පමණ ගොස් නානාවිධවූ සුවඳමලින් හා පහන් දුම් ආදියෙන් මහපුද පවත්වමින් මහියඟන නම්වූ
18 චෛත්‍යය පිදුයේය. නරශ්‍රෙෂ්ඨතෙමේ එකදවසින්ම සම නානකූටපර්‍වතයටද ගොස් වටින් පසළොස්රියන්වූ උසින් පස්රියන් ප්‍රදීපාධාරයෙහි තෙල් කළ සියයක් වගුරුවා
19 (ශ්‍රීපාදලාඤ්ඡනය) පිදුයේය. හේතෙමේ අග්‍රමාර්ගය දුර්‍ගම්‍ය නාකෙරෙමින් දුර්ගමවූ මාර්‍ගය සුඛකොට යන එනනාවුන්
20 ගේ සුවපිණිස සත්සිය අසූවක් ගලින් පියගැටද කරවී. මිහිපතිතෙම මේ ආදිවූ නොයෙක් පින්කම් නොයෙක් ප
21 රිද්දෙන් කොට උපසම්පදාවද කරවන්ට සිතා ගංතෙර බො හෝ ගෙවල්ද කරවා තුන්රටවසන භික්ෂූන් එහි වඩා
22 ඒ පඬිතතෙමේ ඒ භික්ෂූන් විෂයෙහි මහපුද පවත්වන්නේ ධර්‍මකීර්තිමහාස්ථවිරප්‍රමුඛ පන්ජින්නමක්වූ භික්ෂුසඞ්ඝයා
23 පවරා මහොත්සවකරවමින් තුන්සියපස්පණස් නමක් යහ පත් කුලපුත්‍රයන්ද තෝරාගෙණ උපසම්පදාව දෙවූයේය.
24 (පෙර) පැළලුප්නුවර වාසිවූ ඒ මහාසෙනනම් නරපතිතෙ
25 මේ දහසක් භික්ෂූසඞ්ඝයාට දවසක් දවසක් පාසා දන්වල දවා එයින්ද තෘප්තියට නොපැමිනියේ උදාරවූ අදහස්ඇති
26 බැවින් හේතෙමේම වස්ත්‍රශුඩ්යකොට දානයදෙන්ට සිතමින් රාජ්‍යශ්‍රිය හැර උතුරුමදුරාපුර ගොස් බැළමෙහෙ කොට ලැබූ ධාන්‍යයෙන් ශ්‍රඩායෙන් දුන් දානද අසා ශුඩදානයෙහි
27 ඇලුනාවූ පඬිතතෙමේ ස්වකීයකායබලයෙන්ද හැල්කෙ තක් කොට එයින්ලත් ධාන්‍යයෙන්ම මනාකොට දානයක් පැවැත්වී.

28 රත්නත්‍රයෙහි ප්‍රසන්නවූ හේතෙමේ දෙදහස්එකසිය අශූ
29 දෙකක් සිවුරුද පූජාකෙළේය. ඒ රජතෙමේ අසූසත්දහසක්
30 ධනය ප්‍රදානයකොට පින්කම් කරවිය. නරේශ්වරතෙම
හස්ත්‍යශ්වයන් දෙසැටක්ද සාරසියපණසක් ගවමහිසයන්ද
31 පුදකෙළේය. කුශලාභිප්‍රීවූයේ මේ ආදිවූ නොයෙක් ක්‍රම
යෙන් පින්කම් කොට සඞ්ගීමාගීය ශුද්ධ කෙළේය.

32 මෙසේ පරවැඩෙහි නිරන්තරයෙන් ඇලුනාවූ ශ්‍රද්ධාඇත්
තාවූ අතිශයින් පණ්ඩිතවූ නරේන්ද්‍රතෙම ලැබූකායාදියෙහි
අසාරය දැනගෙණ නානාවිධසුඛදායකවූ නොයෙක්පින් ම
නාකොට කෙළේයයි දැන ඝොරවූ සංසාරදුඃඛයෙහි මහත්වූ
භයඇති ජනයෙනි සාරාසාරයන් මෙනෙහි කොට ශරීරාදි
යෙහි පැවත්තාවූ සියලුලොභය හරිව් අකුසීතව පුණ්‍යරා
ශිය කරව්.

මෙතෙනින් සුදිජනයාප්‍රසාදසංවේගපිණිස කළ මහවස
ජයබාහුආදි සත්තරාජදීපන නම්වූ දෙයානූවන අදියරනිමි.

# 93 වෙනි පරිච්ඡේදය.

1 ඒ මහයසස්ඇති නරේන්ද්‍රයන් මෙසේ රජකරණ කල්හි
2 ජයවර්ධනාදිවූ මුහුදු අසල රට ඒ ඒ තැන සූර්‍ය්‍යවංශයෙහි
රජුන් අතුරෙන් ජනාධිපතිවූ මායාදුනුනම්වූ තෙජස් ඇති
3 එක් නරේන්ද්‍රයෙක් වූයේය. ඔහු පිත් රාජසිංහයයි ප්‍රසිද්ධවූ
4 ක්‍රෑරවූ කුමාරයෙක් විය. පියාහා සමග ගොස් ඒ ඒ තැන
යුදකොට ජයගන්නාවූ මහාමූඪතෙමේ තමන් පියහුද සිය
5 තින්මරා දුර්මතිවූයේ රාජ්‍යය ගත්තේය. සීතාවක නුවර
රාජසිංහයයි ප්‍රසිද්ධවූයේ ස්වල්පකාලයක් බුද්ධශාසනය කෙ
6 රෙහි ප්‍රසන්නව කුසල්කරන්නාවූ ඒ රජතෙමේ එක් දිනෙක
දන්දී භය "ඇතිව පිතෘඝාතක කර්මය මම්කෙසේ නසම්දැ"යි
මහ තෙරුන් විචාළේය.

7 එකල්හි විසාරදවූ ස්ථවිරයෝ දුර්බුද්ධිවූ ඔහට ධර්මදෙසනා
කොට දුෂ්ඨවූ සිත සතුටුකරන්ට නොහැකිවූහ. "කරණ
8 ලද පාපය නසන්ට නොහැක්කැයි" යනවචනය ඇසූයේ

දණ්ඩින් ගසනලද කෙණෙහි කිපි නයෙකුගේ දිගේ ශිවභ
9 ක්තිකයන්ද පිළිවිස හැකියයි කියනලද වචනය අමෘතයක්
සේ අසා ඇඟ අලුගා ශිවභක්ති ගෙණ බුද්ධශාසනය නසන්
10 නේ භික්ෂුසඞ්ඝයාද මරවමින් ධර්‍මපුස්තකයන් දවන්නේ
11 ආරාමයන්ද බිඳුවා සඞ්ගීමාගීයද වැසූයේය. හේතෙමේ
12 සසරකණුවූයේ මිසදිටුගත්තේය. සමනාන කූටයෙහි උපන්
13 සියලු ලාභය ගන්ට එහි පව්ටු මිසදිටු තවුසන් යෙදූයේය.
14 මෙසේ ඒ අධාර්‍මිකවූ අඥනතෙමේ ගතයුත්ත නොදැන
නොගතයුත්ත ගෙණ මහත් දුක්ගත්තේය.

15 එකල රාජභය කරණකොටගෙණම භික්ෂූහු සිවුරුහැර
ගිහිවූහ. ඔවුන් අතුරෙන් සසරබිය දක්නෝ ඒ ඒ තැන
16 ගියෝ වූහ. හේතෙමේ සියලු ලොවට හිතවූ අතිශයින් නි
17 ර්මලවූ බුද්ධශාසනය නසා පූර්වපුණ්‍යබලයෙන් මෙහි රාජ්‍යය
කෙළේය. ආඥබලයෙන් යුක්තවූ ඒ පාපිෂ්ඨතෙමේ සියලු
ලඞ්කාතලය තමන් අත්පත්කොට රාජ්‍යය කෙළේයි.

18 මෙසේ රාජබලයෙන් යුක්තවූ ඒ මහීපතිතෙම ආඥබලය
දක්වා සියලු අකුශලරාශිය කොට මාරයාගේ භවනයට ගි
යේය, මෙසේ පාපමිත්‍රසංසර්ගමොහවසගයන්ගේ දොෂ දැන
බියව සකලප්‍රමාදභාවරහිතව බොහෝවැඩ සිදුකෙරෙත්වා.

මෙතෙකින් ශුද්ධජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස මා
ඝාධනවඞ්ගරාජාදිචිරාජදිපතනම්වූ අනූතුන්වනඅදියර නිමි.

---

# 94 වෙනි පරිච්ඡේදය.

---

1 ඒ රජහුගේ කාලයෙහි ගඟසිරිනම් පුරයෙහි සූර්‍ය්‍යවංශ
යෙහිම උපන් එක් කුමාරයෙක්තෙම කොළොම්තොට පැ
2 මිනියේ විය. ඒ තෙමේ එහි සිටින්ට අවකාස නොලැබ
ගෝවරට ගියේවිය. බොහෝ කාලයක් එහි සිට ගජ
3 බාහු යන නැමති ප්‍රසිද්ධවූ මහබලැති ප්‍රධානයා මරා ලත්
ජයඇති පණ්ඩිතවූ හේතෙමේ නොයෙක් පරිද්දෙන් සම්මා
4 න ලබා නැවත ලක්දිව්බැස කල් දැන උඩරටපසෙහි

වැසියන් සම්බන්ධවූ සේනාව ලැබ මහබලැතියේ පිතෘ
5 ඝාතක රාජසිංහරජහු ඇවෑමෙන් බුදුන් පිරිනිවි දෙදහස්
6 එකසිය පන්තිස්වන වර්ෂය පැමිනිකල්හි යට කියනලද ශ්‍රී
වර්ධනපුරයෙහි ශ්‍රද්ධාසම්පන්න පින්මහබලැතියේ විමලධර්
7 සූර්‍ය්‍යයයි ප්‍රසිද්ධවූ මහායසස් ඇති නරේන්ද්‍රයෙක් වූයේය. ඒ
මහත් මුළු පුරය සිසාරා ඒ ඒ තන්හි අටළොස්කොටු
8 වක් තනා උස්කොට කරණලද ඝනවූ ප්‍රාකාරයෙන් යුක්ත
කරවා ප්‍රතිවිරුද්ධශත්‍රූන් වලකනුපිණිස ආරක්ෂක ජන
9 යන් යොදා, සියලු ලඞ්කාරාජ්‍යය නිරුපද්‍රව කොට එබ
10 ඳුවූ රාජකන්‍යාවක්ද අගමෙහෙසුන් කොට සම්ප්‍රාප්තවූ රාජ
භිෂෙකහා මහායසස්ඇති හේතෙමේ පින්කැමතියේ ශ්‍රද්ධා
යෙන් ලොකශාසන සඞ්ග්‍රහ කරන්ට ආරම්භ කෙළේය.

11 නරශ්‍රෙෂ්ඨතෙමේ "සර්වඥදංෂ්ට්‍රාධාතුතොමෝ කොතැන
ද"යි විචාරණය කොට දෙල්ගමු වෙහෙරයයි අසා අතිශයින්
12 ප්‍රසන්න සිත්ඇත්තේ සපරගමු රට දෙල්ගමුවෙහි වඩනාලද
දන්තධාතුව වඩාගෙන්වාගෙණ තමන්ගේ යහපත්වූ පුර
13 යෙහි දවසක් දවසක් පාසා වඳනටද වත් (පිළිවෙත්) කරන්
14 ටද ඒ පණ්ඩිතවූ රජතෙම රජගේසමීපයෙහි යහපත් උතුම්වූ
භූමිභාගයෙක්හි සිත්කළුවූ දෙමහල් දළගෙයක් කරවා එහි
දළදාව තබා නිරන්තරාදරඇත්තේ පූජාකෙළේය.

15 මුළුලක්දිව උපසම්පන්න භික්ෂූන් නැතිබැවින් ඇමති
යන්ද රක්ඛඞ්ගනම්වූ දෙසයට යවා නන්දිචක්‍රාදී භික්ෂූන්
16 පවරා ලක්දිවට ගෙන්වා උතුම්වූ ශ්‍රීවර්ධනපුරයෙහි වාසය
17 කරවා ඉක්බිති ඒ රජතෙම ආදරයෙන් උපස්ථාන කොට
18 මහවැලිගඟ ගැටඹනම්තොට උදකොත්ක්ෂෙප සීමායෙහි
මනොඥවූ ගෙයක් කොට සර්වඥයන්වහන්සේගේ පරිනිර්වා
19 ණයෙන් පසු දෙදහස්එකසියසතළිස් වන වර්ෂයෙහි භික්ෂූන්
එහි වඩා ඒ මහා භික්ෂුසඞ්ඝයාකෙරෙහි බොහෝවූ කුලපුත්‍ර
20 යන් උපසම්පන්න කරවා සර්වඥශාසනය රක්ෂාකෙළේය. බො
21 හෝ කුලපුත්‍රයනුත් ශාසනයෙහි පැවිදි කරවා බොහෝවූ
22 සිව්පසයෙන්ද උපස්ථානකරන්නේ කුශලාභිප්‍රීවූයේ මේ ආ
දිවූ නොයෙක්ක්‍රමයෙන් මහත්වූ පින්කොට ස්වර්ගගාමීය
23 ශුද්ධකෙළේයි, පණ්ඩිතවූ හේතෙමේ එකල්හි බුද්ධශාසන
යෙහි පැවිදිවසිටි ඒ රජහුගේම මල්වූ කුමරහු ගෙන්වා ඔහු
සිවුරු හරවා රාජ්‍යභාරයෙහි නියොගකොට කම්වූ පරිද්
දෙන් පරලොව ගියේයි.

24 මෙසේ ශුභබලයෙන් යුක්තවූ මහීපාලතෙමේ බොහෝ පින්කොට අතිනිර්මලවූ බුද්ධශාසනය හොබවන්නේ ආයු බලය දැක්වූයේය, ශ්‍රද්ධාව ධනකොට ඇති චතුරවූ එබඳු භූපාලතෙමේද මරහුගේම වසඟවිය, අනිත්‍යභාවාදිවූ සියලු ආදීනවය දැන (ජනයෝ) අප්‍රමාදයෙහි ඇලුනෝ වෙත්වා.

මෙතෙකින් සුදිජනයාප්‍රසාදසංවෙගපිණිස කළ මහවස විමලධම්මරාජදිපනනම්වූ සිවූඅනූවන අදියර නිමි·

---

# 95 වෙනි පරිච්ඡෙදය.

---

1 පැමිනි රාජ්‍යාභිෂෙක ඇත්තාවූ ඒ සේනාරතන (නරේන්ද්‍ර)
2 තෙම නිරන්තරයෙන් ආදරඇතිව දානාදි පුණ්‍යකර්මයන්හි යෙදුනේ, එකල්හි සිවුසඟරාවතින් ජනයන් රජනයකොට
3 දන්තධාතු පූජාව හා මහදන් පැවැත්වී. එකල්හි හේතෙමේ දෙට සොහොයුරුවූ නරේන්ද්‍රයන්ගේ මෙහෙසියම අග
4 මෙහෙසුන් කොට ඒ නුවර වාසය කෙළේය. එකල්හි කො
5 ළොම්තොට සිටි වෙළෙන්දෝ බොහෝ කලක් එසේසිට ක්‍රම යෙන් උත්සන්නාවූහ. මිසදිටුගත් පවිටු කුරිරු දරුණු
6 පරඞ්ගිනම්වූ ඒ සියල්ලෝ මනොඥවූ ඒ ඒ රට ගොස් කෙත්
7 වත් නසන්නාහු ගෙවල් ගම් දවන්නාහු කුලපරම්පරාවන් නසමින් මෙසේ සිංහලයන් වැනසූහ. පුරයන්ද චෛත්‍යා රාමයන්ද ප්‍රතිමාමන්දිරයන්ද බිඳ බෝධිවෘක්ෂබුද්ධප්‍රතිමා
8 දින්ද නසා බුද්ධශාසනයහා ලොකයද වනසා ඒ ඒ තැන බලකොටුද බැඳ යුද්ධකරමින් සිටගත්හ. එකල වනපර්වත
9 නදී දුර්ගස්ථානඇති පන්සිය ආදි රට දන්තධාතුස්වාමීන්
10 ගෙන්වා නිර්භයස්ථානයෙක්හි පිහිටුවා ධාතුරක්ෂාවෙහි නියුක්තයන්ද එහිම වස්වා පූජාවිධිය පවත්වමින් දන්ත
11 ධාතුස්වාමීන් මොනවට රැක, ඒ සේනාරතනනම් නරේන්ද්‍ර තෙමේ ඒ පුරයෙන් නික්ම හස්තිසාරවසතු ආදින්හා දෙවු
12 බෑ රජහුගේ පුත්‍රයන්ද ගැබ්සහිතවූ ප්‍රවර ධන්‍යපුණ්‍යල

ලක්‍ෂණඇති ස්වකීය මහෙසිකාවුන්ද මොනවට යොග්‍යවි
13 ඛියෙන් ගෙණ මහියඞ්ගනායට ගියේය. ඒ නරෙන්‍ද්‍රයා එ
හිම වසන කල්හි ඒ මෙහෙසීතොමෝ ඉතා යහපත් නක
තෙක තෙජස් ඇති පුත්‍රයෙක් ප්‍රසව කළාය.
14 වෛරීන්ගේ දෙටුතෙමේ එදවස් රෑ බියඑලවනානාවූ
ස්වපනයක් දුටුයේය. (එනම්) ඒ පුරයෙන් කපෝපැණි
15 යෙක් පමණවූ ගිනිපුපුරක් පූර්වදිග්භාගයෙන් නික්ම ක්‍රම
16 යෙන් එය මහත්ව අවුත් කොලඹතොටමැද පැමිනියේය,
එය අතිශයින් මහත්ව එකෙණෙහි සියල්ල දැවූයේය, එ
17 දවසම ඔහුගේ තෙජසින් ශ්‍රීවර්ධනපුරසමීපගතවූ වෛරී
18 ජනයෝ බියෙන් තැතිගත්සිත්ඇත්තෝ පලාගියහ, න
රෙන්‍ද්‍රතෙම අනුක්‍රමයෙන් වැඩෙනානාවූ දෙවෙනි චන්‍ද්‍රයෙක්
බඳු ස්වකීයපුත්‍රයා ආදිවූ සියල්ල ආදර සහිතව මනාකොට
19 රැකගෙණ පැමිනි කල් දැන තමන් සතු සියල්ල රැගෙණ
ශ්‍රීවර්ධනපුරයටම නැවත අවුත් දෙටුබෑරජහුගේ පුත්‍රයන්ද
20 තමන් ඖරස පුත්‍රයාද වෘද්ධියට පැමිනිකල්හි දයාවෙහි ඇ
ලුනු සිත්ඇත්තේ ඔවුන්ට පර්වතාදියෙන් පරික්‍ෂිප්තවූ ත
21 මන් අයත් රට බෙදා පත්‍ර තුණෙක්හි මොනවට ලියවා ඒ
22 පත්‍රයන් දන්තධාතූන්වහන්සේ ලඟ තබා කුමාරයන් එහි
පමුනුවා රුචිවූ පරිද්දෙන් ගන්ට නියෝග කෙළේය——
23 එකල්හි වැඩිමහල් කුමරහට ඌවරටද, එසේම විජයපාල
නම් කුමාරයාහට මාතලරටද රාජසිංහනම්වූ බාල කුමාර
යාහට උඩරටපසද වූහ.

24 මහීපතිතෙම මෙසේ සම්ප්‍රාප්තවූ පත්‍රයන් බලා ස්වකීය
25 පුත්‍රයාට සම්ප්‍රාප්තවූ පස්උඩරට ලේඛනය දැක අතිශයින්
සතුටුව මහපිණැතෙත්යයි කීයේය, ඒ නරශ්‍රෙෂ්ඨතෙම
26 ඒ ඒ රට එපරිද්දෙන් කුමාරයන්ට දී දානාදී පුණ්‍යකර්මයන්
හා ලොකශාසනසඞ්ග්‍රහය ශක්තිවූ පරිද්දෙන් කරමින්
සත්හවුරුද්දක් විසූයේය.

27 ඒ මහීපතිතෙම ස්වකීය පුත්‍රාදීන්ට මේලඩකාව හා බුඞ
ශාසනය රක්‍ෂාකරණුපිණිස දයාවෙන් රාෂ්ට්‍රයන් බෙදා දී
නොවැලැක්විය හැකිවූ මරණයට පැමිනියේය.

මෙතෙකින් හුදිජනයාප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
සේනාරතන රාජදිපනනම්වූ අනූපස්වන අදියර නිමි.

# 96 වෙනි පරිච්ඡේදය.

---

1 ඉක්බිත්තෙන් ඒ නරශ්‍රෙෂ්ඨයෝ තුන්දෙන කල්ව්‍ මිද
දෙන් ඒ ඒ තන්හි සමඟිව සිට රාජ්‍ය සුඛයද විඳිනෙනා්
2 පරඹිගින් සමග යුද කරන්නෝ ඒ ඒ තන්හි ජයග්‍රාහී
3 වූහ. නැවත ඒ තුන්බෑරජදරුවෝ ඔවුනොවුන්ට විරුඬ
වූහ. ඔවුන් අතුරෙන් මහායසස් ඇති රාජසිංහනරෙන්ද්‍ර
4 තෙම ඒ වැඩිමහලු සහෝදරයන් පහකොට ඒ රාෂ්ට්‍රයන්
තමා අයත් කෙළේය. එකල වැඩිමහල් නරෙන්ද්‍රයා විෂයෙහි
5 මෙන් මැරූකල්හි, මාතලයෙහි සිටි නරෙන්ද්‍රතෙම යානාව
කට නැඟී ගොස් රටසීමාව ඉක්මුනකල්හි ලත් එක් පුරුෂ
යෙකු සමග මුහුදින් එතරද ගියේය.

6 ඉක්බිත්තෙන් නොඉක්මියහැකි හසුන්ඇති ලංවියනො
හැකි පරයනු නොහැකිවූ සිංහසමාන වික්‍රමාජිත අන්‍යවූ
රාජසිංහ නරෙශ්වරතෙම පියසතුව තිබුන රටම ප්‍රථමයෙන්
7 ගත්තේය. සම්‍යග්දෘෂ්ටික දෙවියන් විසින් ලොකශාසනා
භිවෘඞ්ය පිණිස නිර්මිතකරණ ලදෙදකුසේ යුඬයෙහි ධීරවූ
වීරවික්‍රමාන්විත බලඇතෙතක් වූයේය.

8 කුමාරක්‍රිඩායෙන් කෙළනේ අන්‍යවූ අශ්වයෙකු නැඟී
පුරුෂයෙකුහා සමග තෙමේත් අසෙකු නැඟී ගියේ සංකළ
9 කල්හි වනාහි අශ්ව තෙමේ විජියෙහි දිව එහි මඩෙහි ගැලු
නේය. වික්‍රම සංඥනාවූ ධිරනැනැත්තේ තෙමේ අහසට
10 නැඟී පසුව ආවාවූ අසු නැගුනහු ඉවත්කොට මහත්බල
11 ඇතියේ ඒ අසු නැඟී හිඳ ගියේය——රන්ටැම් (තොට)
යසි කියනලද බියකරුවූ ගංතොට මෙතෙර ගලින් අහසට
12 පැන පරතෙර ගලට පැමිනියේය. මේ ආදිවූ නොයෙක්
ක්‍රමයෙන් බල දක්නා ලද්දේ ලොකශාසනාභිවෘඞි කරණු
13 කැමති මහත් අදහස් ඇත්තේ නොයෙක් පරිද්දෙන් යුඬො
පකරණාදිය සඳ යුඬකරණු පිණිස සැදුනාවූ ඒ සිංහල ජන
14 යන් ගෙණ සඞ්ග්‍රාමාරම්භාකරණු පිණිස හස්ත්‍යශ්ව රාජසෙ
වකාදින් හාසමග ශුභවූයේ ශුභමුහුර්ත්‍යෙක්හි ඒ ශ්‍රිවර්ධන
15 පුරයෙන් නික්ම මහායොධාදීන් විසින්ද මහාමාත්‍යාදීන්
විසින්ද දුනු කඩු කොත් ආදිවූ ගනනාලද ආයුධ පඞ්ක්ති
16 යෙන්හා බෙර මිහිඟු බෙරආදිවූ තූර්‍ය්‍යභාගයෙන් පෙරටුකර

ණලද්දේ දානාදි පුණ්‍යකර්ම පිණිස බුද්ධපුත්‍රයන් කැඳ්ව
17 ගෙණ රජතෙමේ ඒ ඒ තැන ගොස් සෙනඟබෙසින් භයඞ්
කරවූ රණභෙරි ඝොෂාවෙන් ගුගුරුවා නිර්භයව දෘඪාරම්භ
කෙළේයි.

18 ඒ නරෙන්ද්‍රතෙම උඩරට පස්ට පැමිනි වෛරීන් ඝාසම
ගම පළමුවෙන් මහයුදකොට බොහෝ පාපීන් මරවා,
19 කර්කශ අධමවූ සතුරන් ඒ ඒ තැනින් පලවා කඳසුරුද බිඳ
20 ජයගත්තේය. ඔබ මොබ බලා ගිරිකඳුරැලි පැන පර්වත
21 දුර්ගයෙන් වැටෙමින් භයින් තර්ජිතව දුවනනාවූ වෛරීහු
සිංහයෙක් ඇත්මුලකට වත්කල්හි සෙයින් නිර්භයවූ ඒ
නරෙන්ද්‍රයා යුදමැද වත්කල්හි වායුවෙගයෙන් යන පුලුන්
22 සේ බැහැර ගියහ. ඒ ඒ තැන විසූ සතුරන්හා නොයෙක්
පරිද්දෙන් යුදකොට බොහෝවූ පසමිතුරු ජනයන් මරා
23 පලවාත් ඒ ඒ රට ගෙණ නිරුපද්‍රව කොට කොටුද බිඳුවා
24 මහත් බලය දැක්වි. භයින් තර්ජිත බොහෝවූ වෛරී ජන
යෝ සැඟවී ගියහ, ඒ මිසදිටු පාපී ජනයෝ මුහුදු අසල
25 ඒ ඒ තන්හි ඒ ඒ කඳවුරෙහි මදකලක් වෙසෙමින් නැවත
26 නැවත ඒ ඒ රට පැහැරගන්ට ආරම්භකළහ. ඉක්මියනො
හැකි ඝසුන්ඇති රාජසිංහ නරෙන්ද්‍රතෙම ඒ ප්‍රවෘත්තියද අසා
27 පූර්වදිග්භාගයෙහි දිගාවැව වෙත නැවත පැමිනියේය. පැ
මින එහි සිටියාවූ මන්ත්‍රනීතියෙහි විසාරදවූ ඒ නරෙන්ද්‍රතෙම
28 ඕලන්දයින්ගේ ප්‍රවෘත්තිය අසා යහපතැයි සිතා, ඔවුන්
ගේ මනොහරවූ දෙශයට ඇමැතියන් දෙදෙනෙක් යවා
29 බොහෝවූ නැවින් ඒජනයන් මෙහි ගෙන්වා සමෘද්ධ සම්
පූර්ණවූ ජනයා විසින් ගැවසෙන ලදුවූ දිගාවැව සමීපයට
30 පැමිනියාවූ මුහුදුතෙර (ඔවුන්) පැමිනිකල්හි ඔවුන්ට සඞ්ග්‍ර
හකොට ස්වකීය ලඞ්කාවේ බලයද ඔවුන්ට දක්වන්ට සිතා
31 බලාසිටිව්යයි මොනවට අණකොට ඒ නරෙන්ද්‍රතෙම සමීප
ස්ථානයෙහි සිටි වෛරීන්හා නොයෙක් පරිද්දෙන් යුද
32 කොට එතන්හි සතුරන් නසා කඳවුරගෙණ ඕලන්දරට
වාසීන්ට ඒ ස්ථානය (දිම්) ආදිවූ බොහෝ සඞ්ග්‍රහ කොට යහ
33 පත්සේ සතුටු කෙළේය. එතැන් පටන් ලඞ්කෙශ්වරතෙම
දෙසෙනග විසින් පෙරටුකරණ ලද්දේ හාත්පස ගොඩ
34 මුහුද (දෙක්හි) යුදකරනට ආරම්භකොට, ඒ ඒ තැන පිහිටි
ශෛලයෙන් ඝනවූ ප්‍රාකාරයෙන් අලඞ්කෘතවූ බලකොටුද
35 බිඳ පසමිතුරනුත් නසා මුළු ලක්දිව මහබලයෙන් යුක්තවූ
36 බෝකලක් බලකොටුබැඳ සිටියාවූ වෛරීජනයන්,නිරවශෙ
ෂවසයෙන් විනාසකොට නිරුපද්‍රවකොට පසමිතුරන් බල

37 වලක්වනු පිණිස ඕලන්ද වාසීවූ ජනයන් මුහුදු අසල ස්ථාන
38 යන්හි ලඞ්කාරක්ෂා පිණිස යෙදූයේය නරෙශ්වරතෙම අවූ
රුදුපතා ඔවුන් විසින් නොයෙක් පරිද්දෙන් පඬුරුද ගෙන්
39 වා එනසේ නියමකොට, අසුරයුද්ධකොට ජයගත් සක්දෙව්
රජහු සෙයින් ඍවිනීයවූ පිරිස ගෙණ තමන් පුරයට ප්‍රවිෂ්ට
40 වූයේය නිරුපද්‍රවම වසනනාවූ පණ්ඩිතවූ ඒ රාජසිංහ
නරේන්‍ද්‍රතෙම ස්ථානාන්තරයන්ට සුදුසුසන් යහපත්සේ විචා
රණයකොට සෙනාපතිබැව් ආදි තනතුරුද දුන්නේය.

41 නරෙශ්වරතෙමේ බුද්ධායතනවලද දෙවායතනවලද සියලු ගම්
කෙත් ආදිය පූර්වයෙහි වූපරිද්දෙන්හා විධිවූ පරිද්දෙන් එසේ
42 ම දානයකොට ඉක්බිති මධුර පුරයෙන් රාජකන්‍යාවන්
ගෙන්වා මහබලැත්තේ දෙපණස් හවුරුද්දක් රාජ්‍යය කෙ
ළේය.

43 මෙසේ මහබලැති යම් රාජසිංහ නම් නරෙශ්වරයෙක්
තෙම සූර්‍ය්‍යවංශයෙහි උපන් මුනිරාජයන් වහන්සේගේ ශාස
නයහා ලෝකය ස්වකීයාක්ෂිය සෙයින්ද ආත්මය පරිද්දෙන්ද
මනාකොට රක්ෂාකෙළේද, ඒ නරොත්තමතෙම මෘත්‍යුරා
ජයා සමීපයට ගියේය.

44 මෙසේ වෛරී බල විනාසකිරීමෙහි දක්ෂවූ මහබලැත්තා
වූ පෘථිවීශ්වර රජතෙමේ බලාදියෙන් මරුවා දිනන්ට නො
හැකියයි ඒ ප්‍රභවය පණ්ඩිතයන් විසින් දැන, මරුවාගේ
පැමිනීමට පළමුකොට මහත්වූ ආදරයෙන් සතතයෙන් දා
නාදි පුණ්‍යයෝ කටයුතුමය.

මෙතෙකින් සුදිජනයා ප්‍රසාද සංවෙග පිණිස කළ මහවස
රාජසිංහ රාජදිපන නම්වූ සයානූවන අදියර නිමි.

---

# 97 වෙනි පරිච්ඡේදය.

1 ඉක්බිත්තෙන් ඒ රාජසිංහරජහුගේ පුත්‍රවූ ශ්‍රද්ධාදි ගුණා
භරණ ඇත්තාවූ රත්නත්‍රයෙහි මමත්වයෙන් යුක්තවූ විමල
2 ධර්මසූර්‍ය්‍යනම් (කුමාර) තෙම රජවූයේය. ගුණාභරණයෙන්
සැරසුන ඒ නරේන්‍ද්‍රතෙම මධුරාපුරයෙන් (පියරජහුවිසින්)
3 ගෙණනලද මෙහෙසිය දුවම අගමෙහෙසුන් කොට සිවු
සඟරාවතින් දැහැමෙන් සෙමෙන් සතතයෙන් ජනයාරඤ්
නයකොට ලඞ්කාරාජ්‍යපාලනය කෙළේය.

4 පැමිනි රාජ්‍යාභිෂෙක ඇති ඒ පෘථිවීශ්වරතෙම බුද්ධශාසන
යෙහි ප්‍රසන්නවූයේ දංෂ්ට්‍රාපූජාදිවූ සියලු නොයෙක් පරිද්
5 දෙන් ආරම්භකොට මුනීන්ද්‍රයන්වහන්සේගේ දළදාව උදෙසා
6 මනොහරවූ නොයෙක් කර්ම්මයෙන් මොනවට බබලන්
නාවූ තුන්මහල් පහයක්ද කරවා, රිදී විසිපන්දහසකින්
7 මනොඥවූ කරඬුවක්ද කරවා එය රනින් ආලෙපකොට නව
රත්නයන්ද ඔබ්බා රත්නචෛත්‍යයක් සමානවූ ඒ මහකරඬු
8 වෙහි සර්ව්වඥදංෂ්ට්‍රාධාතුව වඩා, උපසම්පදාද කරවන්ට සිතා
පන්සියයක් පන්සියයක් වසයෙන් චීවරාදිවූ යහපත් පරි
9 ෂ්කාරයන් වෙන් වෙන් වසයෙන් සජ්ජිතකොට පඬුරු ආ
දියද සමග රාජසන්දෙශාදි ඒ සියලු දී පණ්ඩිතවූ අමාත්‍ය
10 යන් රක්ඛඟනම් දෙසයට යවා සන ානනම් ස්ථවිරයන්
වහන්සේ ආදිකොට ඇති භික්ෂුසඞ්ඝයා පවරා භික්ෂූන් තිස්
11 තුන් නමක් මෙහි ගෙන්වා යහපත්වූ ශ්‍රීවර්ධන පුරයෙහි
12 වාසය කරවා සිවුපසයෙන් සකස්කොට උපස්ථාන කරමින්
පෙර පරිද්දෙන් ගංතොට උදකුක්ඛෙප සීමායෙහි මනා
13 කොට ගෙයක් කරවා එහි භික්ෂුසඞ්ඝයා පමුනුවා කුලපුත්‍ර
යන් තිස්තුන්දෙනෙක් උපසම්පන්න කරවා බුද්ධශාසනය
බැබලවූයේය.

14 එක්සිය විස්සක් කුලපුත්‍රයන් ශ්‍රද්ධායෙන් හෙරණ පැවිදි
15 බැව්හි පිහුටුවා බොහෝවූ සිවුපසින් උපස්ථානත් කරන්
නේ සද්ධර්ම්මයෙහි හික්මවා පුණ්‍යරාශියද රැස්කෙළේය.
16 පදව්‍යතිහාර කුශලයද මහතැයි සිතා සමන්තකූට පර්ව්ත
යටද ගොස් මාණික්‍යමුක්තාඵලාදියෙන්ද ස්වර්ණරත්න
17 භාණ්ඩයෙන්ද නානාවිධ වස්ත්‍රාදියෙන්ද මහපූද පවත්ව
මින් සත්දිනක් එහි වාසය කෙළේය. සමන්තකූටපර්ව්ත
18 මස්තකයෙහි පිහිටියාවූ ඒ සර්ව්වඥපාදලාඤ්ඡනය රජතමයවූ
මහත්වූ ඡත්‍රයකින් වසා මහා පූජාද කෙළේසි. දවසක්
19 දවසක් පාසා ධර්ම්මශ්‍රවණය කරමින් පොහොයක් පාසා පෙ
හෙවස් රකිමින් බොහෝවූ කුසල් හේතෙමේ කෙළේය.
20 කුශලාභිප්‍රීවූ හේතෙමේ මේ ආදිවූ නොයෙක් ක්‍රමයෙන්
රෑ දවල් අප්‍රමාදවූයේම නානාවිධවූ කුසල් කෙළේය.
21 ඒ නරෙන්ද්‍රතෙමේ මෙසේ ලොකශාසන සඞ්ග්‍රහ කොට
දෙවිසි හවුරුද්දක් වාසයකෙළේ මරුවා වසඟවූයේය.

22 දානාදිවූ නොයෙක් කුශලයන් කෙරෙහි දයා ඇත්තාවූ
අතිශයින් ධීරවූ හේතෙමේ ලොකෙක නායකවූ මුනිශ්ව
රොත්තමයන්වහන්සේගේ උතුම් ශාසනය මෙසේ ආදර
සහිතවම බැබලවූයේය. (තෙපිදු) නිරන්තරයෙන් අප්‍රමා

23 දුව ශාසනවරය බබුළුවවී. ඉක්බිත්තෙන් ඒ නරේන්ද්‍රයානන්
පුත්‍රවූ ශ්‍රීවීරපරාක්‍රමනරේන්ද්‍රසිංහනම්වූ කුමාරතෙම රජවූයේ
24 ය. ප්‍රඥාවීරගුණයන්ට මන්දිරයමානවූ නරේන්ද්‍රසිංහනම්වූ ඒ
රජතෙම ලඞ්කාරාජ්‍යය රක්‍ෂාකරණුපිණිස මධුරාපුරයෙන්ද
25 රාජකාන්‍යාවන් ගෙන්වා අගමෙහෙසුන් කොට දානාදි පින්
කම්හා දන්තධාතුපූජාද දවසක් දවසක් පාසා කරන්නේම
26 පුණ්‍යස්කන්ධයක්ද රැස්කෙළේය. පියරජනන්ගේ කාල
යෙහි උපසම්පදා ලත් භික්‍ෂූන්ට උපකාරකරණනාවූ හේතෙ
මේ බොහෝවූ කුලපුත්‍රයන් පැවිදිකරවා ශ්‍රද්ධායෙන් ශාසන
සඞ්ග්‍රහ කෙළේය.

27 සර්ව්ඥයන්වහන්සේ ජීවමානකාලයෙහිම කරවනලද ම
හ්‍යඟනචෛත්‍යය වඳනාපිණිස මහසෙන් සහිතවූ නරේන්ද්‍ර
28 තෙම වැඩ නානාවිධ විචිත්‍රවස්ත්‍රයෙන් එකල චෛත්‍යය
29 පුදා රිදී මල්හා රන්මලින්ද, දියෙහි උපන්නාවූද ගොඩ
30 උපන්නාවූද බොහෝවූ නානාප්‍රකාර සුගන්ධපුෂ්පයෙන් හා
ඛාද්‍යභොජ්‍යාදියෙන් මහපූද පවත්වා මහපින්ද රැස්කෙ
31 ළේය. මහසෙන් ගෙණ එම මියුඟුනුවෙහෙරට දෙව
රක් වැඩ මහපුද පැවැත්වීය. ඒ නරේන්ද්‍රතෙම ශ්‍රද්ධායෙන්
32 දෙවරක් සමන්තකූටපර්ව්තයට වැඩ පූජාත් කොට පුණ්‍ය
රාශිය රැස්කර ගත්තේය.

33 මහපිරිස් ගෙණ මහනුවරින් නික්ම මහත්වූ අනුරාධපුර
යට වැඩ මහපූද පැවැත්වූයේය—හේතෙමේ සුගතචීවර
34 ප්‍රමාණවූ සිවුරක් කරවා පූජාවස්ත්‍රවෙන් නොයෙක් පරිද්
දෙන් සර්ව්ඥදංෂ්ට්‍රාව පිදූයේය. මූලනගරයෙන් නුදුරුවූ
35 සිත්කළු ගංඉවුරෙහි මහපොල් උයනෙහි කුණ්ඩසාලය යන
නමැත්තාවූ ශාඛානගරයක් කොට වසන්නාවූ ඒ නරේන්ද්‍ර
36 තෙමේ එහිම මනාකොට සෙනසුන් කරවා සාමණේරවර
යන් වාසය කරවා දානාදි බොහෝ කුසල් දිනක් දිනක්
37 පාසා කරන්නේ පුස්තකයන්ද ලියවා පියරජනන් විසින්
38 දන්තධාතුන්වහන්සේ උදෙසා මහානුවර කරවනලද මන්දි
රය ජීර්ණවූවා දැක කම්පිතවූ සිත්ඇති ඒ නරේන්ද්‍රතෙම
39 දෙමහල් උතුම් ගෘහ (ප්‍රාසාද) යක් කරවන්නේ නානාවිධ වි
චිත්‍ර කර්ම්මයෙන් බබලන චාරයෙන් යුක්ත කොට කලධෞත
පර්ව්තයක් මෙන් සුණුවමින් බැබලුම් ඇතිකොට පලයෙන්
40 අලඞ්කෘත කොට මාලකවංයෙහි භිත්ති (මතුයෙ) හි විදුරජා
තකය, ගුත්තිල, උම්මඟ්ගජාතකය, අදිවාහන, මහාකණ්හ,
41 සුතනු ජාතකය, ඡද්දන්ත, ධම්මධජ, ධම්මපාල ජාතකය,
42 මහාජනකජාතකය, පදමානවක, ධම්මසොණ්ඩ, මහානා

රදකස්සපජාතකය, මහාපදුම, තෙලපත්ත, චුල්ලපදුම
43 ජාතකය, සත්තුභත්ත, අන්ධභූත, චම්පෙය්‍ය, සස ජාත
කය, විසය්හ, කුස, සූතසොම, සිවි, තෙමිය යන ජාතකද,
44 චුල්ලධනුඬර ජාතකයහා සච්චඞ්කිරජාතකයද, දුම්මෙධ
ජාතකයහා කාලිඟබොධිජාතකයද, සීලවජාතකය හා
45 එසේම මණ්ඩබ්බජාතකයද, වෙස්සන්තරජාතකය, යන
46 මේ ජාතක දෙතිස විචිත්‍රවූ සිත්තමින් මොනවට කරවා න
47 රෙන්ද්‍රතෙම අප්‍රමාණවූ පුණ්‍යස්කන්ධයක් රැස්කෙළේයි. ඒ
නුවර මැද මහාබොධිවෘක්ෂයහා චෛත්‍යයද නාථදේවාල
48 යද ඇතුලු කොට හාත්පසින් ගලින් නිමවන ලද්දාවූ
සනොහතුඟවූ සුණුවමින් බබලනනාවූ පුරස්ත්‍රීයගේ ග්‍රීවා
49 ලඞ්කාරයට මුක්තාහාරයක්මෙන් යහපත්වූ ප්‍රාකාරයක්ද
කරවා කීර්ත්තිදෙහය පැවැත්වූයේය.

50 තමන්ගේ කාලයෙහි පැමිනි හෙරණ පැවිදිතැන් අතු
රෙහි යමෙක්තෙම ශීලාචාරගුණයෙන් යුක්තවූයේද, අප්‍ර
මාදයෙහි හැමකල්හි ඇලුනේද, නොයෙක් ව්‍යාකරණයන්
51 හිද බුද්ධවචනයන්හිද (දක්ෂවූයේද) පණ්ඩිතවූයේ ආගම ප්‍ර
කාශකරන්නෙක්වූයේ පරවාද ක්ෂමවූයේ මහායසස්ඇති ග
ණාචාර්‍ය්‍යවූයේද—ආත්මාර්ථයෙහිද පරාර්ථයෙහිද පරිත්‍යා
52 ගකරණලද ජීවිත ඇතොත්ද ලඞ්කාද්වීපයෙහි පවත්නා බුද්ධ
ශාසනනැමැති අහසෙහි චන්ද්‍රයාසේ ප්‍රකටවූයේද, ශ්‍රද්ධාප්‍රඥ
53 වන්ට මන්දිරයක්වූ අප්‍රමාදයෙහි ඇලුනාවූ ඒ සරණඞ්කර
නම් සාමණේරයානන්ට ඒ මිහිපතිතෙම ධර්මාමිසසඞ්ග්‍රහ
54 යෙන් නැවත නැවත සඞ්ග්‍රහකරන්නේ ලොකයට අසහාය
නායකසර්වඥවූ මුනීන්ද්‍රයන්වහන්සේගේ ධාතුන්වැඩීමෙහි
55 එක්රියන් සමාරක් උස් කරඬුවක් කරවා ස්වර්ණයෙන්ද
ආලෙපකොට මැණික්ගල් සත්සියයක්ද බඳවා දිලිසෙනනා
56 වූ ඒ සධාතුක කරඬුවද අනෙකවිධවූ සද්ධර්මපුස්තකයන්ද
ප්‍රදානය කොට සඞ්ග්‍රහ කෙළේය. රජතෙමේ චීවරාදි ප්‍රත්‍ය
57 යන්ද බොහෝ කැපකරුවන්ද ඒ සරණඞ්කරාභිධාන සාම
ණේරයානන්ට දානයකොට ආමිසයෙන් සඞ්ග්‍රහකෙළේය.
58 නරෙශ්වරතෙම සද්ධර්මය බොහෝකල් පිහිටුවනපිණිස
යහපත්සේ ආරාධනාකොට එකොළොස් දහසක් ග්‍රන්ථයන්
ගෙන් ප්‍රතිමණ්ඩිතවූ සාරාර්ථසඞ්ග්‍රහ නම්වූ සද්ධර්මප්‍රකරණ
59 යක්ද, මහාබොධිවංශයට සිංහලභාෂාර්ථවර්ණනාවක්ද,
පූර්වකාලයෙහි ජම්බුද්‍රොණිපුරයෙහි පරාක්‍රමබාහුනම් රජහු
60 රජකරණකල්හි පස්පිරිවෙන් වාසීන්ට ප්‍රධානවූ පණ්ඩිතකුශ
ලාතීපිවූ ස්ථවිරයන්විසින් ප්‍රතිපත්තිපූරනනාවූ සියලු(භික්ෂූ)හු

61 මෙයින් නිරෝගී වෙත්වායි ආශිංසනය කොට කරණලද
62 භෛෂජ්‍යමඤ්ජුසාවට අප්‍රවණණනාවද ඒ නැනැත්තාවූ පරි
63 ශුඞසම්බොධිය පතනාහාවූ සරණඞකරනම් සාමණෙරයා
නත්ලවා කරවූයේය.—ඒ පණ්ඩිතවූ නරෙශ්වරතෙම මේ
ආදී නොයෙක් පින්කම්කොට රාජ්‍යය තිස්තුන් වර්ෂයක්
කොට මරණු වසඟවිය.

64 ඒ නරෙන්‍ද්‍රතෙමේ අතිරම්‍යවූ ලඞ්කාද්වීපයෙහි ඉතා උතුම්
ඉසුරුලබා ඒ සියලලද ශරීරයද ක්ෂත්‍රිය ජනයන්හා සුභෘත්
ප්‍රාණීන්ද හැර (පරලොව) ගියේයයි දැන භවතුනි තොපි
උතුම්වූ සර්‍වඥයන්වහන්සේගේ වචනාවවාදධර්මය සිහි
කොට උතුම්වූ මොක්ෂශ්‍රියහා ස්වර්ගසුඛදායකවූ පුණ්‍යකර්මය
කරව්.

මෙතෙකින් ශුද්ධජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
විමලධම්මාදිච්රාජදිපනනම්වූ අනූසත්වන අදියරනිමි.

---

# 98 වෙනි පරිච්ඡේදය.

---

1 ඉක්බිත්තෙන් ඒ රජහු මෙහෙසිය බාල සොහොයුරුවූ
2 ගුණාභරණයෙන් සැරසුනාවූ කුමාරයෙක්තෙම රජවූයේය.
3 ශ්‍රීවිජයරාජසිංහ යනනමින් ප්‍රසිඞවූ හේතෙම සම්ප්‍රාප්තරා
ජ්‍යාභිෂෙක ඇත්තේම රත්නත්‍රයෙහි ප්‍රසන්නවූයේය. සඞර්
4 ශ්‍රවණයෙහි යෙදුනාවූ ප්‍රමාදරහිතවිචක්ෂණවූයේ යහපත්
වූ ආචාර සහිත ජනයන්ගේ සේවනයෙහි නිරන්තරයෙන්
5 ආදර ඇත්තෙක් විය. ක්ෂත්‍රිය (රාජ) වංශය රක්ෂාකරණ
පිණිස ඒ මදුරාපුරයෙන් රාජකන්‍යාවන් ගෙණවුත් අගමෙ
හෙසුන් කොට සියලු ලක්දිව්වැසි ජනයන් මනාකොට සිවු
6 සඟරාවතින් රජනය කොට යහපත්වූ ඒ පුරයෙහි වාසය
කෙළේය. ඒ රජහුගේ මෙහෙසියෝද බොහෝකල් පැවතා
වාවූ මිථ්‍යාදෘෂ්ටිය හැර නිර්වාණදායකවූ සම්‍යග්දෘෂ්ටිය මොනා
7 වට සමාදන්ව ලොකයට අසහායනායකවූ සර්වඥයන්
වහන්සේගේ උතුම්වූ සඞර්මය අසා මෙසේ සතතයෙන්
ආදර ඇතිව බුඞාදි රත්නයන් පිදූහ.

8 ඒ භික්ෂුවරහු ශ්‍රද්ධාවෙන් සත්කාරකොට (සර්වඥ) දන්තධා
තුව දවසක් දවසක් පාසා සමන්මල් ආදිවූ නානාවිධ පුෂ්ප
9 පූජායෙන්ද කපුරුආදියෙන් යුක්තවූ මිහිරිබුලතින්ද සුවඳ
තෙල් යෙදූ පහනින්ද සුවඳ සඳුන් ආදියෙන්ද නානාවිධ
10 සුවඳ දුම්න්ද ශර්කරායෙන්හා මීයෙන්ද අතිකුත් භෛෂජ්‍ය
11 යෙන්ද වස්ත්‍රාභරණාදියෙන්ද ඛාද්‍යභොජ්‍යලෙය්‍යපෙය්‍ය හා
12 රස විදියයුතුදෙයින් මොනවට පුරවනලද රජතස්වර්ණ
මයපාත්‍රයෙන්ද තිරහා ඇතිරියෙන්ද නානාවිධ පරිෂ්කාර
යෙන්ද මාහැඟි චීවරයෙන්ද මේ ආදියෙන් පූජා පුණ්‍යරාශි
යද රැස්කළාහුය.

13 නිරන්තරයෙන් පන්සිල්ද, පොහොය පාසා පෙහෙවස්ද
සමාදන්ව සද්ධර්මශ්‍රවණයෙහි යුක්තවූවෝ (වාලබ්රක්නා)
14 සෙමරුන්සේ රකිමින් බුද්ධානුස්මෘත්‍යාදි භාවනාද වඩනෝ
15 සද්ධර්මපුස්තකයන්ද ලියවා දනානිසංශය කැමතිවන්නාහු
16 නිතිබත්ද යලිත් ගම්ක ගිලන් බත්ආදීන්ගේ විභාගද මනා
කොට දැන ලද භොගයෙහි අලග්නව නිතිබත් ආදිය
17 දුන්හ. ලදරුවන්ද පැවිදි කරවා බොහෝවූ සඞ්ග්‍රහකොට
පය්‍යාප්තිප්‍රතිපත්තියෙහි මනාකොට හික්මවා රුති රුති දෑ
දිමෙන් කල්පශාඛා සමාන වූහ.

18 ලඞ්කාවීපයෙහි (වසන්නාවූ) සකලජනයා කෙරෙහි හිතව
කරුණා ඇතිවූහ. පුතුන් මව්සෙයින් සිතමින් ගුණයන්ට
19 උත්පත්තිස්ථානව දයා සහිතවූහ. පිළිමහා කරඬුද මොන
වට කරවා සියලු පාපයෙහි බියඇතිව සැමකල්හි සකල
20 පුණ්‍යයෙහි ඇලුනෝ මේ ආදිවූ නොයෙක් කාරණයෙන්
ගුණාභරණයෙන් සැරසූනාහු සියලුම ලඞ්කාවිපයෙහි අතිශ
යින් ප්‍රකට වූහ.

21 ශ්‍රද්ධාඇත්තාවූ ඒ නරෙන්ද්‍රතෙම ඒ ඒ තන්හි ආවාසයන්ද
කරවා සාමණේරයන් වාසය කරවා ඔවුන්ට මහත් ආදර
22 ඇතෙන් සිව්රු ආදිවූ ප්‍රත්‍යයෙන් බොහෝවූ සඞ්ග්‍රහ කොට
උතුම්වූ සද්ධර්මය අසා ඒ සාමණේරවරයන් අතුරෙන්
23 උපොසථාරාමයෙහි වාසය කරන්නාවූ ශ්‍රද්ධාඇති ගුණයන්ට
24 ආකරවූ සරණඞ්කරනම් සාමණේරයන්ද පිදූයේය. ඒහෙර
ණුන්දැම පවර සතරබණවර සන්නයක් සිංහල භාෂාවෙන්
25 කරවා ඒ (නරෙන්ද්‍ර) තෙම පය්‍යාප්තිධර්මයද රැකියේය. ඒ
නරෙන්ද්‍රයා අභිනවවූ ධාතුමන්දිරයෙහි ධාතු වඩාහිඳිවීමෙන්ද
26 මහත් දෙෂයක් වන්නේයයි බුද්ධශාසනයෙන් බාහිරවූ කුත්
සිතබුද්ධිඇත්තන්ගේ බස්ගෙණ අන්‍යයන්ලවා කරවන්ට
27 නියෝගකොට එයින් අන්‍යවූ නුවරකට ගොස් වාසයකරණ

කල්හි ඉක්බිත්තෙන් ඇමතියෝ එකතුව වත්කරු ආදීන්
28 සමග මහබලැති සියල්ලෝ කරඬුව විවෘත කරන්ට කරණ
ලද උත්සාහඇත්තාහු මුළුරය නොයෙක් පරිද්දෙන් වෑයම්
29 කොට විවෘතකිරීම් නොලැබූය ; ඇමතියෝ ගොස් ඒ ප්‍රවෘ
ත්තිය මහරජනන්ට සැළකළෝ. මිහිපතිවූ රජතෙමේ
30 ඒ අසා වේගයෙන් ඒ පුරවරයට අවුත් නානාවිධ සුගන්ධ
පුෂ්පයෙහු පහන් දුම්ආදියෙන්ද ආදරයෙන්ම පුදා වැඳ
31 යතුරුමුදුව ගෙණ එකණෙහි කරඬුව මොනවට විවෘත
කෙළේය. පිළිවෙළින් තුබූ ඇතුළු කරඬුද හැර සර්වඥයන්
32 වහන්සේගේ දංෂ්ට්‍රාධාතුව දැක "ලැබූආත්මය සඵලය" යි
ප්‍රීතිවාක්‍ය පහළකොට නුවර වැසසන් රැස්කරවා මහසැණ
33 කෙළිද කරවා මහපුද පැවැත්වූයේය.——ඒ අද්භූතයද
දැක ප්‍රීතිප්‍රමොද්‍යයෙන් බරවූයේ භාණ්ඩාගාරයත්හා මිණිමුතු
34 ආදියෙන් පුදා උතුම්වූ මුනීන්ද්‍රදන්තධාතුව හස්තනැමැති
පියුමට ගෙණ දක්වා ඒ පෘථිවිපාලතෙම සියල්ලන් මොන
වට සතුටුකෙළේයි.

35 පූර්වනරෙන්ද්‍රයන්ගේ කාලයෙහි කරවනලද ධාතුමන්දිරය
සවර්ණයෙන් විසිතුරුකරණලද්දාවූ නානාවිධ වස්ත්‍රයෙන්
36 සරසා, නානාවිධ සුවඳතෙලින් පහන් දල්වා පුන්කලස්
37 තබ්බවා දෙවමන්දිරයක් සෙයින් විචිත්‍රවූ ඒ මැදුරෙහි රිදී
38 අසුන් මත්තෙහි සර්වඥයන්වහන්සේගේ දළදාව වඩා ධාතු
39 පූජාකරනනාවූ හේතෙමේ මුළුනුවර නිරවශෙෂ වශයෙන්
ශුද්ධකරවා සකස්කොට වැලිඉස ඒ දන්තධාතුපූජාවෙහිලා
40 (ධාතු) මන්දිරය හාත්පස ඒ ඇතුළු මලුවෙහිද පිටත ආලින්ද
යෙහිද මහ රජමළුවෙහිද ඒ සියලූ වීථිවලද දෙපස උස්වූ
41 ඇදනැති යටියෙන් තොරන් නිරතුරුකොට සදවා කෙ
සෙල්ගස් බැඳ පුවක්මල් පොල්මල් ආදියෙන් මොනවට
42 සැරසූයේය. එකල යටිඅක්හි බඳනාලද නානා වර්ණ
43 යෙන් බබලනනාවූ වස්ත්‍රඛණ්ඩයෙන් නගරාකාසය කොක
වැලින් ගැවසුනාසේ දර්ශනීයවී. ඒ ඒ තැන මනාකොට
44 පුන්කලස් තබ්බවා හාත්පස මන්දිරාලින්දය ඉදිරියෙහි
මණ්ඩපයන්හිද රන්රිදී ආදියෙන් නිමවනලද නානා ක
45 ර්මයෙන් බබලනනාවූ වියන්ද බඳවා නානාවිධ කාන්ති
මත්වූ ජවනිකායෙන් වටකොට නානාවිධ කර්මාන්තයෙන්
46 බබලනනාවූ බුමතුරුණුම එහි මනාකොට අතුරුවා ලදපස්
මල්ද හාත්පස ඉස සියලු පුරය සජ්ජිත කරවා දෙව්ලොව
47 දෙවෙන්ද්‍රතෙමේත් මෙසේ පුදකරන්නේයයිද පූර්
48 ලඞ්කාශ්වරවූ මහිපතිවරයෝද මෙසේ පුදකළෝයයි දක්

වනනාසේ ඒ මහීපතිතෙම රාජාභරණයෙන් සැරසුනේ
49 ඒ පුරයෙහි ලක්දිව්වැසි සාමණේරවරයන්ද යලිත් උපා
සක උපාසිකා ජනයාද සියලු නුවරවැසියන්ද පිටරට වැසි
50 ජනයන්ද රැස්කරවා ඔවුන්ට දයාවෙන් කරුණාතත්පර
51 පෘථිවිපතිතෙමේ පෘථිවියෙහි පසඟපිහිටුවා මුනීන්ද්‍රයන්ව
හන්සේගේ දංෂ්ට්‍රාධාතුව වැඳ හස්තපද්මමස්තකයෙහි ව
52 ඩාගෙණ අතිශයින් සතුටුසිත්ඇත්තාවූ ඒ නරේන්ද්‍රතෙම දෘ
53 ගෙයින් නික්ම රිදීකුඩයෙන්ද රන්කරඬුවෙන්ද මනා සෙ
මෙරපෙළින්ද රන් රිදීමල්ආදිවූ නානාවිධ පුෂ්පපූජායෙ
න්ද නොයෙක් මිණිමුතු ආදියහා වස්ත්‍රාභරණාදිවූ පූජා
54 වස්තුවෙන්ද නොයෙක් පඤ්චාංගතූර්‍ය්‍යාදියෙන්ද සාගරයසේ
55 නිරන්තර මහපූදපවත්වන්නේ නානාවිධ විචිත්‍රාලඞ්කාර
ඇති පිටතමණ්ඩපයට ගොස් සිටියේයි. ලඞ්කාධිපතිවූ ඒ
56 නරේන්ද්‍රතෙම උතුම් දන්තධාතුව දක්වා අවට සිටි අනල්පවූ
ජනසමූහයා විශේෂයෙන් සතුටුකොට එය යථාස්ථාන
යෙහිම වැඩූයේයි.

57 එකල මෙසේ ජීවමාන බුදුන්දර්ශනයෙහිමෙන් සර්වප්‍රකාර
යෙන් සියල්ලන් සතුටුකොට බොහෝවූ කුසල් රැස්කෙ
58 ළේයි, ස්වර්ණමාණික්‍යමුක්තාඵලාදියහා නානාවිධාභර
ණයෙන්ද ඇත්අස් දැසිදස් ආදිවූ පූජාවස්තුවෙන් නොයෙක්
59 පරිද්දෙන් පුදා උත්තමාධ්‍යාසය ඇත්තාවූ ඒ මහීපතිතෙම ස
මන් සපු ආදිවූ මලින්ද සුවඳසඳුන් ආදියෙන්ද පුදා පහන්
60 පුද අනූසස් මහතැයි සිතා ස්වකීය පුරයෙහිද රටවලද ඒ
ඒ තැන චෛත්‍යයන්හි එකදවසින්ම පහන් පූද කෙරෙත්
61 වයි ආඥකොට එකරැම ජනසමූහයා රැස්කරවා සත්ලක්ෂ
62 අනූදහස් සසියයක් පහනින් පූජාවක්ද කෙළේය. මෙසේ
63 එකල්හි ලඞ්කාධිපතිරජතෙමේ ලඞ්කාවීපභූමිය උසස්ව
බබලන පහනින් තාරකාවන් විසින් ගැවිසුන අහස සේ
64 කෙළේය. තිස්තුන්දහස් අටසියයක් අධික කොට ඇත්
තාවූ තුන්කෙළක් පුෂ්පපූජායෙන්ද පුණ්‍යස්කන්ධය රැස්
කෙළෙයි.

65 බුද්ධරූපයන් කරවීමෙහි ප්‍රසන්නවූ මහගුණැති රජතෙම
මාතලරට ආලොකලෙන ආදියෙහිද ඒ ඒ රට ගිරිලෙන්
66 හි ජනයන්ට සැපදෙන්නාවූ බුද්ධශරීරප්‍රමාණවූ සැතපෙන
වැඩසිටින වැඩහිඳින අභිනව බුද්ධරූපයන්හා චෛත්‍යයන්
67 ද කැඩුනු බිඳුනු ප්‍රතිමා මන්දිරයන් බොහෝවූ ප්‍රතිසං
68 ස්කරණකර්ම්මයන්ද කරවා ඊට සඞ්ග්‍රහද කොට පුණ්‍යරාශිය
තරකෙළේය. නරේශ්වරතෙම ඒ ශ්‍රීවර්ධනපුරයෙහි පෙර

69 කරණලද ජීර්ණව තුබූ බොහෝ රාජමන්දිරාදීන් පහකොට
70 ශෛලකර්ම්මාදියෙන් බබලනනාවූ සිත්කළුවූ මන්දිරයන්
කරවා යදෙර සහිතවූ මනොඥ වාරයන් සොඳ නානාවිධ
71 රූපලතාකර්ම්මඇතතාවූ දෙමහල් මනහරවූ දොරකොටුගෙ
72 යද කරවූයේය. ඒ නුවර වසනනාවූ ධර්ම්මශ්‍රවණයෙහි
මහත් ආදරඇතතාවූ ඒ මහීපතිතෙමේ රජමලුව මැද
73 මණ්ඩප කරවා විසිතුරු තොරන්ආදියෙන් නිරතුරුකොට
සරසවා වියන් බඳවා අසුන්ද පණවා මහොත්සවයෙන්
74 බොහෝ සද්ධර්ම්මකථිකයන් වඩාගෙණවුත් චිත්‍රවූ විජිනිපත්
75 ගත්වා ඒ ධර්ම්මකථිකයන් වැඩහින්දවූයේය. මනාකොට
අර්ථදැක්වීම් ආදී ආකාරයෙන් කියනලද හෘදයඞ්ගමවූ සද්ධර්
76 යද අසා ප්‍රසන්නවූයේ රන්රිදියෙන්හා පහන්දුම්ආදී
යෙන්ද නානාවිධ විචිත්‍රවස්ත්‍රයෙන්ද පූජාවස්තුවෙන්ද නො
යෙක්පරිද්දෙන් ඇමතියන් සහිතවූයේ පූජා කොට සේනා
77 සමග බොහෝවූ කුසල් රැස්කෙළේයි. ධර්ම්මදානය මහත්යයි
78 සද්ධර්මයෙන් අසා එපරිද්දෙන් (කරණුකැමැතෙත්) රාජයත්‍ත
79 නොයෙක් රටවල උසනනාවුන්ට වැඩකැමතිවූයේ මහජන
යා රැස්විමට සුදුසුවූ ඒ ඒ තන්හි මහසෙනසුන්හා ධර්ම්මශාලා
80 දීන්ද කරවා ඒ ජනෙන්ද්‍රතෙම බොහෝවූ ධර්ම්මකථිකාදීන්
81 ඒ ඒ තන්හි යවා මනුෂ්‍යයන් රැස්කරවා සද්ධර්ම්මය කියවා ධර්
දානයද දෙවූයේය. පූර්වයෙහි රාජසිංහනරෙන්ද්‍රයන්ගේ කා
82 ලයෙහි ඉතිරිවූ ඒ මිථ්‍යාදෘෂ්ටික අධාර්ම්මිකවූ පරඞ්ගිදුර්ජ්ජන
යෝ එකල්හි ඒ ඒ තැන වැස ඔවුන්ගේ දෘෂ්ටිය මිළදීම්ආදී
83 යෙන් අනුන්ලවාද ග්‍රහණය කරවන්ට උත්සාහ කරනනාබුදු
ශාසනයට අගෞරවඇතිව උපායෙන් යුක්තව වාසයකළහ.
84 නරෙන්ද්‍රතෙම ඒ ප්‍රවෘත්තිය අසා වේගයෙන් කිපී ඇම
85 තියන්ට ආඥා කොට ඔවුන්ගේ ගෙවල්හා පොත් නස්වා
ඒ දෘෂ්ටිය නොහරින්නන් රටින් නෙරපූයේය. ඒ මහීපති
86 තෙම සමන්තකූටපර්වතයෙහි උතුම් සර්වඥපාදලාඤ්ඡනයෙහි
පහන්පූදආදී සියලල කරවූයේය. අනුරාධ පුරයෙහිද
87 මහියඞ්ගනාදී ඒ ඒ ස්ථානයන්හිද මහපූද පැවැත්වූයේය.
පූර්වදිශායෙහිහා පශ්චිමදිශාභාගයෙහිද දුකසේ යායුතු ජල
88 යුක්ත මාර්ගයෙහි යන එන්නන්ගේ සැපපිණිස ගල්හෙයද
කරවී. ලඞ්කාද්වීපයෙහිවූ බුඩශාසනය භික්ෂුසඞ්ඝයා නොලැ
89 බීමෙන් ප්‍රහීණවූබව දන කම්පිතවූ රජතෙම භික්ෂුසඞ්ඝයාට
ආරාධනා කරන්ට සිතා බුඩශාසනය කොයි කොයි තන්හි ප
90 වතීදැයි නොයෙක් පරිද්දෙන් විචාරණය කොට පේගුවය,
91 රක්ඛඞ්ගය, ස්‍යාමය, යන ඒ ඒ දෙශයන්හි පවත්නේයයන

92 ඕලන්දයන්ගේ ශුභවචනය අසා ඒ ඒ රට බුද්ධශාසනයෙහි ප්‍රවෘත්ති විචාරණය කරන්ට මූලභාෂායෙන් මනාකොට
93 සන්දේශ ලියවා ඒ රජතෙමේ ඇමතිආදීන් වෙන් වෙන් වස සෙන් පිටත්කොට ඒ අයොධ්‍යරාජ්‍යයෙහි ශාසනය අති
94 නිර්මලය අතිශයින් යහපත්භාවයෙන් පවත්නේය යන කථාව ඇසූයේය. නරේශ්වරතෙම ඒ අයොධ්‍යයෙන්ම බුද්ධ පුත්‍රයන් ලඞ්කාවට ගෙණ එන්ට පූජෝපකරණාදිවූ නො
95 යෙක් පඬුරුහා සමග හසුන්පත්ද ඒ එකල්හි ඇමතියන් යැවූයේය.—ඒ මිහිපතිතෙම මුනීන්ද්‍රයන්වහන්සේගේ දංෂ්ට්‍රාධාතුව වඩන්ට එක්රියන් සමාරක් උස්වූ රන්මුවා
96 කරඬුවක්ද කරවා මහඟුම්ණිමුතුආදීන් බඳවා එය නො නිමි කල්හි කළ පින් ගෙවූනේ අටහවුරුද්දක් වැස (මෙලේසි)

97 ශ්‍රද්ධාදි නොයෙක් ගුණනැමති ආභරණයෙන් සැරසුනාවූ සර්වඥයන්වහන්සේගේ උතුම් ශාසනයෙහි අතිශයශ්‍රද්ධය කැමතිවූ ඒ නරේන්ද්‍රතෙම අනන්ත සැපදෙනනාවූ මහත් කුසල්කොට පසුව මරුවා සමීපයට ගියේය.

98 මෙසේ ලඞ්කාධිපතිවූ පරාර්ථයෙහි නිරන්තරයෙන් ඇලුනාවූ පින්කැමතිවූ ජනේන්ද්‍රවූ ඒ උතුම්රජතෙම ආත්මාර්ථය හා පරාර්ථය සිද්ධකරමින් රාජ්‍යය කෙළේය. ලොකයෙහි සැප යද ලොකොත්තරවූ මහත් සැපයද ප්‍රාර්ථනාකරන්නාවූ නොපිඳ කුසීත බැව් හැර නානාප්‍රකාර සුබදායකවූ පුණ්‍ය රාශිය කරව්.

මෙතෙකින් සුදීජනයා ප්‍රසාදසංවෙගපිණිසකළ මහවස සිරිවිජයරාජසිංහඅදීපනනම්වූ අටානූවන අදියර නිමි.

# 99 වෙනි පරිච්ඡේදය.

---

1 ප්‍රවර ගුණවත් රජහුගේ ඇවෑමෙන් ඒ රජු සුහුරුබඹුවූ ජනනයන මනොඥවූ රූපශොභායෙන් අග්‍රප්‍රාප්තවූ රුචිර සකල ලඞ්කාවීපයට පහනක්වැනි උතුම් ශ්‍රීඇති සුකුමාර
2 (ක්‍ෂත්‍රියතෙමේ) රාජාධිරාජවිය. ලක්දිව් වැසූන් වැඩෙහි ඇලුනාවූ ඒ ජනෙන්ද්‍රතෙමේ බුදුන් පිරිනිවි දෙදහස්දෙසිය අනූවෙනි අවුරුද්ද පැමිනිකල මනරම් ලක්දිව්හි මහරජුන්
3 වියොවින් සොකාතුරජනයා එකල්හි අස්වැසී. සියලු දී
4 ගුන් බඹුලුවා හිරුඅස්තාඞ්ගතකල අඳුරු සෙයින් ශොකා
5 තුර සියලු ජනයා නිශ්ශොකකොට එකල්හි මහත් යසස් ඇති ඒ රජතෙමේ සියලු දිගුන් බබුලුවමින් උදාවන හිරු
6 සේ ලක්රජයට පැමින මොනවට සියල්ලන් සතුටුකෙළේය. බුදුන් ආදි තෙරුවන්කෙරෙහි ප්‍රසනනවූ පැමිනෙන
7 ලද රාජ්‍යාභිෂෙකඇති පින්කැමැති ඒ රජතෙමේ අප්‍රමාද වූයේ මුළු නුවර ශුඬකරවා පිළිතොරන් ආදියෙන් අලඞ්කාර
8 කරවා උතුම් හොබනා ඒ නුවර සියලු ලක්දිව්වැසිජනයා මොනවට රැස්වූ කල මහා යසස්ඇති පිනින් පහළවූ මහ
9 රජතෙමේ රාජශ්‍රීයෙන් යෙමින් නුවර පැදකුණුකොට ර
10 ජෙක් නැති ලක්රජය සරාජකයයි උන්ට හගවා. ඒ රජ තෙමේ මහපිනින් සුන්‍යාව ශ්‍රීවර්ධනනුවර වෙසෙමින්, බුදු
11 සස්න පාලනයට ප්‍රතිඥාකොට ආවාවූ පින්ඇති ඒ කීර්තිශ්‍රී රාජසිංහශ්‍රෙෂ්ඨතෙමේ මේ ලකට පැමිණ ලඞ්කාරාජ්‍යශ්‍රී ධරව මනා පැණඇතිව ශ්‍රඬා ධනකොට ඇතෙත් සාරාසාර බැව් මෙනෙහි කොට බුඬාදිවසතුත්‍රයෙහි පූජා පටන්ගත් තේයි.

12 සැදැහැඇති ඒ නරාධිපතෙමේ පව්වූ මිතුරන් බැහැර කෙරෙමින් පණ්ඩිතන් සෙව්මින් හුදියන් ඇසිරුකෙරෙමින්
13 උතුම් දහම් අසමින් පැණැතිව කටයුතු නොකටයුතු හැ
14 දින අකර්තව්‍යයන් හරිමින් කර්තව්‍යයෙහි ඇලුනේ සියලු ජනයන් සිවුසඟරාවතින් තුටුකෙරෙමින් පණ්ඩිත
15 මිනිසුන්විසින් ප්‍රශංසාකටයුතුවූයේ දහම් දනයෙහි විපාකය සඞ්ඝශ්‍රවණයෙහි ඵලය දහම්ලියවීමෙහිහා දහම්
16 පූජාවෙහි පින්ය යනාදී දහමින්ම අසා ඒ කටයුතුයයි

17 සිතා නොයෙක් තන්හි බණමඩු කරවා නත්විසිතුරුවතින් වියනුදු බඳවා තොරන්ආදී නොයෙක් දැසින් නානා විභා
18 ගයෙන් සරසා පහනුදු දල්වා අසුනුදු පණවා සත්කාර බ හුමානයෙන් සදහම් දෙස්නවුන් වඩාගෙණවුත් ආදර
19 සහිතවූයේම ආරාධනා කොට මොනවට පැණවූ ඒ අසුන්හි
20 වඩාහිඳුවා එම දහම්දෙස්නවුන්ලවා දම්සක්ආදී බොහෝ සූත්‍රාන්තයන් දෙස්වා ගෞරව සහිතවූයේ මුළු රැය අසා
21 සිරුරුදිවිසමැතුන්ගේ අසාරබැව් අසාරහෙයින්ද සාරබැව් සාරහෙයින්ද ධර්මශ්‍රවණයෙන් දැන ශ්‍රද්ධාඇති ඒ තෙමේ
22 ප්‍රසන්නව ඇමතියන් සෙන්සහිතවූයේ පූජාවස්තුවෙන් මහපුද පවත්වමින් ඇතුළුනුවර වැසිවූද පිටනුවර වැසිවූද
23 සියලු ජනසමූහයන්ගේ අභිවෘද්ධියපිණිසහා සැපපිණිස නොයෙක් වාරයෙහි දහම් දානය දෙවා ඒ නරාධිපතෙමේ දහම්දන්මුවා පින්කෙළේය.

24 රක්කඩුවෙන් ආ භික්ෂූන්කෙරෙහිද නැවත ලක්දිව භි ක්ෂූන්කෙරෙහිද පැවිදිවූ නොයෙක් හෙරණවහන්දෑ විෂ
25 යෙහි ආදර සහිතවූයේම සිව්රුආදී පසයෙන් ඒ වහන්දෑට
26 සඞ්ග්‍රහ කොට නරශ්‍රෙෂ්ඨතෙමේ පිරිත් මඞ්ගලාදිය කියවී, මෙසේ නොයෙක්වර සදහම් පවත්වා පසයද (දන්) දී
27 පින්රැස වැඩූයේය. නවදහස් සසීයක් මිළ ශ්‍රද්ධාවෙන් වි
28 සඳා උතුම් රන්පොතක් කරවා ඒ රන්පොත්හි දම්සක් ආ දී බොහෝ සූත්‍රයන් ලියවා ඒ තෙමේ ධර්මකථිකයන්ලවා
29 මුළුරැ කියවා නොයෙක් වස්තුවෙන් පුදා නොයෙක්වර උ
30 තුම් දහම් ඇසීය. නරශ්‍රෙෂ්ඨතෙමේ ලියන්නන් රැස්කරවා එකදවස්හිම දික්සඟිය ලියවා බොහෝ සඞ්ග්‍රහ කොට එ
31 සින් මුළුරැය මොනවට සදහම් කියවා මහපුද පවත්වා
32 තෙමේත් අසා (අනුන්ටද) ඇස්වී. සංයුත් සඟිආදී අනික් බොහෝ පොත්ද ශ්‍රද්ධාවෙන් ලියවා ලියන්නන්ට වස්තු දුන්
33 නේය——අනික් ගිහිපැවිද්දෝද මනාකොට දහම් පොත්
34 ලියවා තමා දක්වති (එසේ) කල තුටුසිත් ඇත්තේ ඔවුන්ට
35 ධනාදිය දීමෙන් බොහෝ සඞ්ග්‍රහ කොට ආදර ඇති හේ තෙමේ ලක්වැසි අන්‍යයන්ගෙන් පින්ගත්තේය.

36 පින්කැමති නරශ්‍රෙෂ්ඨවූ ඒ රජ සපිරිවරින් අනුරාපුරවර
37 යට ගොස් වරබොධි චෛත්‍යයන් ඇත් අස් ආදීන්ද රන්
38 රිදී ආදීන්ද පුදා අනෙක ප්‍රකාරයෙන් පින්රැස් කෙළේසි· මහායසස් ඇති ඒ ජනෙන්ද්‍රතෙමේ මියුගුනුසෑයටද උතුම්
39 නකා සෑයටද ගොස් රාජතෙජසින් මහපුදපවත්වමින් වැඳ පින්රැස් කෙළේයි. පැරකුම්මිහිපල්හුවිසින් පොළොන්න

40 රූ නගරවරයෙහි කරවනලද සෑද මනාදැකුම්ඇති වෙහෙ
41 රද පූදන්වත් වඩින්වත් මහසෑදූහැ මහයසස් ඇති රජතෙ
42 මේ මහපිරිස සමග ගොස් මොනවට පූජා කෙළේය. ශ්‍රද්ධා
43 දී ගුණසම්පන්නාරජතෙමේ රිදීවිහාරයද වැඳ පින්රැස අත්
පත් කෙළේය.

44 පෙර ලක්දිව්හි රජුන්සෙයින් ලොකයෙහි මගුලැයි
සම්මතවූ නාථය උපුල්වන යනාදී දෙවපූජා පෙරටුකොට
සෙනග දක්නාපිණිස මුළු නුවර දෙව්පුරය සෙයින් සර්වප්‍ර
45 කාරයෙන් සරසවා ලක්දිව්වැසි සියලු ජනයන් රැස්කොට
එපුරෙහි ඔවුන්අතුරෙන් එකෙකීරටින්ද තනතුරෙන්ද ජන
46 යන් වෙන් වෙන් කොට නගණලද කොඩිසලකුණු ඇති
කොට ඒ ඒ තැන වස්වා දෙවස්ථානගත ආයුධයන්ද ඇ
47 තුන්පිට තබබවා නොයෙක් නැට්ටුවන්ගෙන් ආකීර්ණවූ
බෙරමඬුලයෙන්ද නොයෙක් ඇත්සමූහයෙන්හා නො
48 යෙක් අස් සමූහයෙන්ද නොයෙක් වස්ත්‍රයෙන් අලඞ්කෘත
බඹවෙස් දරනනන්විසින්ද නොයෙක් සත්දරනනවුන්
විසින් හා නොයෙක්වන් සෙමෙර දරනනවුන්විසින්ද නො
යෙක් ගැහැණුසමූහයාවිසින්හා නොයෙක් පිරිමිසමූහයා
49 විසින්ද නන්පලඟ දරනනවුන්විසින්හා නානා කඩුගත්ත
වුන් විසින්ද නොයෙක් කුන්තායුධ දරනනවුන්හා නො
50 යෙක් අවිගත්තවුන්විසින්ද නන්වත්දරනනවුන්විසින්හා
නන්කොඩි උසුලනනවුන්විසින්ද නන්දෙසින් ආවුන්විසින්
51 හා නානාභාෂා දනනවුන්විසින්ද නොයෙක් ශිල්පීන්විසින්
හා නොයෙක් කම්කරුවන්විසින්ද මේ ආදී නොයෙක් දෙ
52 නා විසින් නොයෙක් පරිද්දෙන් ඇතු පිරිවරා ඉදිරියෙන්ද
පස්සෙන්ද යන්ට මෙහෙයා ඊට ඉක්බිතිව රජතෙමේ දෙව්
රජහුසෙයින් මහත් රාජශ්‍රීයෙන් පිටත්ව මුළුනුවරමොනවට
53 පැදකුණුකොට නිම(විය. එසේ)කල නැවතඅවුත් සුදුසුපරිද්
54 දෙන් ඇතුල්වෙති. සෑදැහැපැණගුණයෙන් උසස්වූ අපගේ
අගරජතෙම අවුරුදුපතා පවත්වන්නාවූ ඒ ඇසළමඟපෙළ
55 හර බුදුපූද පෙරටුකොට පවත්වනුවට සිතා මගුලැතුපිට රන්
56 කමින් මනාකොට නිමවනලද සිව්ගෙය සකසා බැඳ මනා
බින්දුහා දෙදළ ඇති ඇතු අබරණින් සරසවා රිදීකුඩහා චා
57 මරයන්ද මල්ගත්තවුන් විසින් නැඟි ඇතුන්ගෙන්ද අනෙ
කාකාරයෙන් පූජාවස්තූන් ගත්තාවුන් විසින්ද මල්වියන් ඔස
58 වන්නවුන් විසින්ද නොයෙක් ධජපතාකාවෙන්ද නන්වෙස්
ගත්තවුන්විසින්ද නොයෙක් රජඇමතියන් විසින්ද නන්
59 දෙසින් පැමිනියන් විසින්ද ඒ ඇතු සිසාරවා නිම්කල

නරශ්‍රෙෂ්ඨතෙමේ බුදුසිරුරුද වැඩූ බඟසුරු වරරන් කර
60 ඬුවෙක් සකසා සිව්ගෙහි වඩා මල්ඉස්නවූන්ලවා මල්වැසිද
61 වැස්වී—සාධුකාරරවයෙන්හා සක් තාලම් පටා හඬින්ද
නානාභෙරීන්ගේ හඬින්ද මහොත්සවය කරවන්නේ ආ
62 ශ්චර්‍ය්‍යාද්භූත සිත්ඇති යම් යහපත් සත්පුරුෂ ජනකෙ
නෙක්වෙත්නම් කරණලද ශිර්‍ෂාඤ්ජලියෙන් ඔව්හු අනවරත
63 යෙන් පුදති. දඹුවැට පහන් ගත්තාවුන්ලවාද මඟුල්වෙස්
ගතුවන් ලවාද අනෙකවිධ පූජාවෙන් නරශ්‍රෙෂ්ඨතෙමේ
64 පුදවමින් සුරාසුරනරාදීන්විසින් පූජනීයයන්අතුරෙන් අග
තැන්පැමිනි ජිනධාතුව පෙරටු කරවා දෙව්මිනිස්ආදි සියල්
65 ලන් පසුපසු කොට යන්ට යොදා තෙමේත් මඟලසන්නාහසො
66 භාවෙන් මහත්රාජර්ද්ධියෙන් මහත් රාජානුභාවයෙන් මහත්
පෙළහරින් දෙව්රජ දෙව්ලෙව්හිත් මෙසේ ධාතුපෙළහර
67 කරන්නේයයි මිනිසුන්ට දක්වමින් සෙයින් යෙයි.
68 ශ්‍රද්ධාආදිඅනෙකගුණයෙන්යුක්තවූයේ බුදුන් දහම් සව්ස
යා සෙව්මින් සාරයත් අසාරයත් සිහිකෙරෙමින් සතුටුවූ
යේ දන්ඈ පින් නිරන්තරයෙන් කෙරෙමින් සැදැහැපැණ
69 කුළුණු බහුලවූ අතිශයින් උතුම් ගුණඇති ලක්දිව්පහන්
බඳුවූයේ බුදුන් කෙරෙහි සුපහන්වූයේ දසබලධාරී බුදු
හුගේ දහම්හි මොනවට හැසිරෙමින් සතතයෙන් අප්‍රමාද
වූයේ ආදර සහිතව ඒ තෙමේ දනාදි පින්කම් කෙරෙමින්
සාරාසාරය මෙනෙහි කෙරෙමින් සියලු ජනයාකෙරෙහි හිත
වූයේ මෙසේම කෙළේයි.
70 තුණුරුවන්හි ආදර සහිතවූයේ දවසක් දවසක්පාසා
මහපෙළහරින් දළදාවහන්සේට මහපුද පවත්වමින් තමන්
71 කාලයෙහි හටගත් සියසඟහු හැමකල්හි ආදරඇත්තේ
තමන් අයත් සිවුපසයෙන් උපස්ථාන කොට සදහම්හි ඉතා
72 පහන් ඒ තෙමේ නැවත නැවත දහම් අසා හැමකල්හි
ආදර ඇත්තේ අනල්පවූ පින්රැස්කෙරෙමින් දිවමනුබුදුන්
73 කල්හි සෙයින් බුදුසසුන් පවත්වන්නේ ලක්වැසි මිනිසුන්ට
74 බොහෝකොට පින්වඩමින් පැරකුම්බාආදි පෙරරජුන් කට
යුතු අසා මැනවයි දැන ඔවුන් කටයුතු අනුගතවූයේත් රජ
75 දහමුදු අසා එහිදු මහාආදරඇත්තේ අගතියෙහි භයව සිවු
76 සඟරාවත්හි තමා සෙහෙන් යොදමින් සියබෑයාආදි සියල්
ලන්ට සුදුසුපරිද්දෙන් ඒ තෙමේ සඞ්ග්‍රහයෙන් සතුටුකොට
77 විචාරා ඔවුන්ගේ සිත් මනාකොට ගත්තේය. මෙසේ පර
හිතනිරත ජනෙන්ද්‍රවූ ඒ ලඞ්කාධිනාථතෙමේ බුදුහු සස්
78 නාද එසේම ලොකයද අනලස්වූයේ මොනවට පාල

79 න්‍යාය කොරෙමින් පෙරලක්දිව් අධිපතිවූ නරපල් සමූහයන්
පවත් අසා ඔවුන් කටයුතු මෙනෙහි කෙරෙමින් ඔම්ද උ
80 තුම් රාජධර්මයෙහි හැසිරෙමි මෙසේ නිශ්චය කොට නරේන්ද්‍ර
තෙමේ සිතමින් මහවස රජුන්ගේද සූළුවස රජුන්ගේද ම
හාසම්මත රජුපටන් හස්තිශෛලපුරය දක්වා ඒ ප්‍රවෘත්තිය
පූර්වයෙහි ගාථාබන්ධනයෙන් පූරාතනආචාර්‍ය්‍යවරයෝ මහා
81 වංශ නම්ඇති සම්ග්‍රන්ථයක් පවත්කොට (තැබූද) ලක්දිව
82 පැවති හොඳ සියම්රටින් ගෙණඅා ලක්රජුන්ගේ එම වංශ
83 කථා පොතද යන දෙක පිළිවෙළින් වෙනවෙනම විචාළේ
ලඞ්කේන්ද්‍රතෙමේ අඩුයසි අසා පරාක්‍රමබාහුආදිවූ මෙකල් දක්
84 වා රජුන්ගේ මෑතභාගයෙහි අප්‍රකටවූ ප්‍රවෘත්තියද ලියවා
85 රාජවංශය පැවැත්වී. මෙසේ ඒරජ තෙමේ රාජනීතියද ධර්ම
නීතියද නො ඉක්මවමින් දැහැමෙන් සෙමෙන් රාජ්‍යානු
86 ශාසනා කරන්නේ රජදහමට එකඟවූයේම දානාදි බොහෝ
කුසල් දවසක් දවසක් පාසා කෙරෙමින් උතුම් දහම් මෙ
87 නෙහි කෙරෙමින් සිවුසඟරාවත්හිද එනම් දාන ප්‍රියවචන
අර්ථචර්‍ය්‍යා සමානාත්මතා යනමෙහි පිහිටියාවූ නරශ්‍රේෂ්ඨවූ
88 රජතෙමේ සියමල්රජුන්ට සමානබැව් ලොකයාහට දක්ව
මින් යානවාහන හා නොඅඩුසම්පත්දී වෙසෙසින්ම යුව
89 රජුන් දෙදෙනා සතොස්වා සතරාකාරයහින් වස්තු සඞ්ග්‍රහ
යෙහි මොනවට පිරවී, මෙසේ ලබනලද යසස්ඇති ඒ
90 දෙදෙනා දළදා මහපූද වෙන්වෙන්වම කරණෙනෝ බණ
පොත් ලියවා ලියන්නන්ට වස්තු දෙති. භික්ෂුසඞ්ඝයා ආරා
91 ධනාකොට නිතිබත්ආදි දන් නිරතුරුදෙමින් බණඇසී
මෙත්ම කටයුතු නොකටයුතු දැන පව්කම්හි පිළිකුල්
92 වනෙනෝ පින්කම්හි මහත් ආදරඇත්තෝ දක්ෂවූ ඉතායහ
93 පත් මනාහෙරණපැවිදි (වහන්ද) විචාරා ඒ සාමණේර
94 (වහන්දෑට)රාජඝී අටපිරිකරදීමෙන් උපසම්පදා දෙවා විනය
ධර්මයෙහි සහ සූත්‍රාන්තයෙහි මනාකොට හික්මවා මහපිරි
95 කරඇති ආවාසයන් කරවා එහි භික්ෂූන් වස්වා සකස්කොට
96 ආදරඇතිව උපස්ථාන කළහ. ලෙව්සසුන් හිස නොයෙක්
පරිද්දෙන් විචාරන්නෝ සජ්ජනසඞ්ග්‍රහයද දුර්ජ්ජනනිග්‍රහ
යද මහරජනන් සිතට එකඟවම සූදුසුපරිද්දෙන් කෙ
97 රෙති. මේ ආදි නොයෙක් නයින් පින්කැමතිවූද රජහු
ගේ චිත්තයට එකඟව වැටෙනනාවූද ලෙව් සසුන් මාගේම
98 යයි සිතනනාහු (වූහ.) සමඟර පෙර රජදරුවෝ රාජ්‍ය
99 ලාභාදිය කරණකොටගෙණ සොහොයුරු ආදීන් නො
තකා උතුන් පෙළූහ. ඔවුන්ගේ විවාදයෙන්ම මිනිස්සූද

100 එසේම වූහ. මේ තුන්දෙනා ඒසා රාජ්‍ය සම්පත්තියක් ලැබත් විවාදය තබා උනුන් සිදුරුදු නොදක්වා එම නුවර වස නෙහා්ත් ඡායා සෙයින් හැමකල් ප්‍රියවූහු. මෙසේ රාජ්‍යය නිසාත් කෝපමාත්‍රයකුදු නොකොට සීලවජ්ජාතකයෙහි බෝ
101 සතුන් ගුණසමාන (හැසිරීම්) කළහ. විසාලා මහනුවර ලිච්ඡවි රජුන්සේ සමගිව විරිදුනොව රජකළහ. එහෙසින්ම
102 ඔව්හු ජයලාභයද ලැබූ. ලඞ්කාංගනාශ්‍රියෙන් උමතුවූ මද පැණැති තිසි මිහිපල්කෙනෙක් නොකටයුතු කොට නො
103 යෙක් ව්‍යසනයට පැමිනියෝය. ලකගන සිරිසැපත්ලත්
104 පැණැති නරපල්ලු කටයුතුද කොට මහායසස් හිමිවූහ.
105 එබඳු ලකගනට හිමිවූ මේ නරපල්හු තෙදෙනා සමගිබවට
106 පැමිනියහ. ඒ ආශ්චර්‍ය්‍යයයි මම කියමි, මහගුණඇති මහ රජතෙමේ කුඩආදිසම්පත් අි රජපිරිස් ගෙණ ඇවිදිනා සිය මලු දැක සතුටුබවට පැමින මෙසේ ඒ තෙමේ හුදු බ්‍රහ්මභාව නාවමම වැඩූයේයි.

107 මිහිපල්කුලග සසුන් පිටිවහල් අපමණ ගුණදරවූ ඔව්හු මොනවට දහමෙහි හැසිරෙනොවා් අගති ගමන් හරිමින්
108 මනාමිතුරන් බෙජෙමින් සුගති ගමන් මගම සාදනු කැමැත්තෝය. මෙබඳු මනාගුණයෙන් යුත්වූ සැදැහැ ධනකොට ඇති මිහිපල්හු සැදැහැයෙන් ශ්‍රීමත් සම්බුදුන්ගේ මේ දළ දාවද ධර්‍මයද උතුම් සඞ්ඝයාද පූජාකොට අශෙෂ සම්පත් දායක බොහෝපින් රැස්කොටගෙණ නිමල්බුදුසස්නද මේ
109 ලකද මොනවට පාලනය කළෝයි. ලොවට අසහාය නායකවූ බුදුහු ගුණසාරභාරය මනාකොට මෙනෙහි ලා ගෙණ නිතියෙන් සිහිකරනනාවූ එසේම ඒ බුදුන්ගේ ධර්‍මය හා සඞ්ඝයාත් මෙනෙහි කරනනාවූ වරගුණඇති ලඞ්කාධි
110 පයා නිරන්තරයෙන් භජනය කෙරෙත්වා. මෙසේ රජුන්ට අධිපති මහරජවූ රාජබලයෙන් යුක්ත මිහිපල්තෙමේ නිමල් මුනිසසුන්ද මේලක්දිවද සකස්කොට රක්නේ සම්පත් අි සියලු රටවැසි මිනිසුන් සතොස්වා දෙවිමිනිසුන් සතුටු කෙරෙමින් මහාපැණැති පුණ්‍යඊආශුබලඇත්තේ විය

111 මහතෙදඇති මහපැණවත් මහයසසින් යුක්ත (රජු)
112 ලෙව් සසුන් රකිමින් මහනුවර වසනකල රාජසිංහරජහු
113 ගේ කාලයෙහි ලඞ්කාආරක්‍ෂාවපිණ්ස යොදනලද්දාවූ ම හත් බලඇති ඕලන්දෙයයි නම්වූ ඒ මුහුදු වෙළෙන්දෙ
114 ලක්දිව්හිමි රජුන්ගේ දූතකෘත්‍යයෙහි යුක්තවූහු නොයෙක්
115 රට උපන් නොයෙක්වස්ත්‍රාදි බොහෝ රාජපරිභොගයට සුදුසු මාහැඟි බඩු මොනවට විචාරා මහත් ගෞරවයෙන්

116 මහපෙළහරින් ගෙණවුත් පඬුරුකොට අවුරුදුපතා දෙති
117 එකල්හි ලක්වැසි මිනිසුන්ගේ පෙර කළකම්න්හෝ ලෙව්
සසුන් අරකුත්හි නියුක්ත දෙවතාදීන්ගේ ප්‍රමාදයකින්ද්‍යු
118 වෙසෙසින් කිපුනු ඉතාකර්කශ ඔව්හූ ලක්වැසි මිනිසුන්
නොයෙක් ආකාරයෙන් පෙළූහ. මහායසස් ඇති මහරජ
119 තෙමේ එපවත් අසා ඒ තුසුදුසුයයි සිතා එකල්හි ඇමතියන්
යැවීය.

120 එසේ ඒ ඇමතියෝද ලක්වැසි ජනයන්හා ගොළු
ඕලන්දයන්හා බිහිසුනු යුදකරන්නෝ පිළිසතුරන් නසන්
121 නෝ ගෙවල්හා කොටු ගිනිලන්නෝ නානාඋපායෙන් උ
122 න්ට භය එලවූහ. සතුරන්අතුරෙන් දුර්චකර්කශඅධම ආයු
ගෙවුනාවූ පව්ටු එකෙක් ප්‍රධානබැව්හි සිටියේතෙමේ ජාවුන්
123 ආදී නානාප්‍රකාර මහපිරිස් ගෙණ ඒ ඒ රටහා ගම්ද විහාර
දෙවාලද හේදඬුඅම්බලම් ආදියද නොයෙක් පරිද්දෙන්
124 විනාශ කෙළේය. ලක්හිමියාවිසින් අණවනලද ඇමතියෝ
වූකලී යුඬයෙහි දක්ෂ ශුරයන්හා (ඉදිරියටගොස්) ඒ ඒ
125 තැන අනෙකාකාරයෙන් යුදකරනෝම සතුරන් ඒ ඒ
තන්හිදී මැරීමෙනුත් සර්වප්‍රකාරයෙන් ඒතෙමේ වලකාලිය
126 නුහුනුයේ නුවර බලාආය. යුදපිණිස සැදුනු මහඇමතියෝ
නානාප්‍රකාර මාර්ගයන් අවුරා වෛරීන්ගේ ඉදිරියෙන්සිට
127 වහා ඊම වැලකූහු. කල්දන්නා ලක්හිමි මහනුවනැති මහ
රජතෙමේ ලැව්ගිනිසමවූ වෛරීන්ගේ ආගමනයත් වලක
128 නට නොහැක්කයි සිතා දළදාවහන්සේද බිසව්ද නැගෙ
129 ණියන්ද සාරවසතුවද යුවරජුන් දෙදෙනාට සුගොපනය
පිණිස භාරකොට පර්තවනදුර්ගයෙන් දුර්ගමවූ රටට යැවීය.

130 පසුව සියලු වෛරීසමූහයෝ කර්කශයක්ෂසේනාසෙයින්
නුවරට පැමින දහම් පොත්ආදිය විනාස කළහ. සෙනෙවි
131 රත් ආදී නොයෙක් මහඇමතියන්හා යුඬදක්ෂවූ තැන්
132 නොතැන් දන්නා වීරයන් විසින් පිරිවරණලද මහරජතෙ
මේ මහසෙන් විසින් පෙරටුකෙළේ මහනුවරට නුදුරුවූ අතු
133 නුවරවල ඒ ඒ තැන්හි වෙසෙමින් නුවර ඇවිරවූයේය. ලක්
134 වැසි බුදුසසුන් සැදැහැති මිනිස්සුද රජහු සිතට අනුව වැ
ටෙන්නෝ සතුර පක්ෂගතයන් අතුරෙන් දුටු දුටු බොහෝ
135 මිනිසුන් ඒ ඒ තැන මැරූහ. රාජදූතාදී මිනිසුන්හා භික්ෂු
136 සඞඝයාද රක්ෂාකළහ. රජහට පක්ෂපාතවූ වීරගුණඇති
බලවත් ධීරයෝ රණකෙළියෙන් ක්‍රීඩාකොට බුදුසස්න රක්
137 නාකැමැත්තෝ යුඬයෙහි සූරයොධයන්විසින් පිරිවරණලද්
දෙ මග ඒ ඒ තැන වසනනාවුන්හා නොයෙක් පරිද්දෙන්

138 යුදකොට පලවා ඇතුළුනුවර (වාඩිලාගත්) වෛරීන්හා යුද
කරන්ට අරබයා උන් නැවත නැවත මැරූහු. මනුෂ්‍යවූවෝ
139 අපගේ රජහු චිත්තානුවර්තීවූහ යනු ආශ්චර්ය්‍යයයි නොසිතමු
දෙවියෝද එසේවූහ. එහෙයින් වෛරීන් අතුරෙන් මහා
140 අග්‍රප්‍රධානයාට (එහි) පැමිනි නොබෝකලකින්ම දෙවානු
භාවයෙන්ද රජහු පුණ්‍යානුභාවයෙන්ද භයසන්ත්‍රාසයෙන්
141 බිහිසුනු උමතුබවපැමිනි ඒ මනා නුවර හැර නිශ්‍රිකවම
ගොස් මරණගිනනට පැමිනියේය.

142 අග්‍රනායා වසගව ආවාවූ සියල්ල ඒ සතුරු සමූහයෝ අනාථ
143 අසරණව ව්‍යසනයට පැමිනියහ. කිසිවෙක් රොගාතුරවූහ,
කිසිවෙක් ක්ෂුධාරොගයෙන් පීඩිතවූහ. කිසිවෙක් යුදෙහිදී
144 මරණලදහ, කිසිවෙක් පර්වතදුර්ගයට වන්හ. මෙසේවෛරී
පක්ෂනරාධමයෝ මරණලද්දෙද ගියෝද වූහ. මෙසේ දෙව්
මිනිසුන්ආදීන් විසින් මේ රජතෙමේ රක්නාලද්දේවී.

145 මෙසේ මහානුභාවඇත්තේ අතිශයින් මහපින් ඇත්තේ
යයිද (ලෝවැසෝ) කිවූහු. මෙබඳු ආනුභාවහා මහපින්
146 ඇති ඒරජහු අණ ඇක්මෙන්ට ලොකයෙහි කවර සමර්ථ
යෙක් වන්නේද දුරුකරණලද වෛරීසමූහඇති මහායසස්
147 ඇති නරනායක මහරජතෙමේ සතුරුබලය නොදක්නේ
පෙරසෙයින් මුළුනුවර ශුද්ධ කරවා දළඳා මැදුරුආදිය සකසා
148 වෙසෙසින් අලංකාරද කරවී උතුම් බුදුසස්නෙහි පිවිතුරු
අදරඇති ඒ තෙමේ වරබුදුවදන් නීතියෙන් මෙනෙහි කෙ
රෙමින් බුදුපිතුන්ගුණ මෙනෙහිකිරීමෙන් යුක්තවූයේ සම්බු
149 ද්ධදශනධාතුව නිත්‍යයෙන් පුදමින් තෙරුවන්හි මෙසේ
මොනවට වැටෙමින් නරශ්‍රෙෂ්ඨ ඒ තෙමේ දළදාවියොවින්
150 තමහට උපන්දුක් නොඉවසන්නේ එකල පිරිස් සහිතව
මහාදුර්ගවූ රට (ගොස්) මහසැදැහැතියේ ධාතුකරඬුව දැක
151 ආශ්චර්ය්‍යඅද්භූත සිත් ඇත්තේම සකසා වැද හිස බිමතබා
152 භික්ෂුසඞ්ඝයාද වැඳ තමා සිතදුක් නිවූයේය.

153 හොබනා අස්වස්ලද්දාවූ ඒ තෙමේ දළදාව සහිත ඒ කර
ඬුව හිස තබාගෙණ මහපෙළහර පවත්වමින් සාධුකාරරව
154 යෙන්හා පසගතුරු රැවින්ද මහසැණකෙළි කොට තමා
පුරයට වන. එකල ලක්දිව්වැසි මිනිස්සුද දළදාව සහිත
155 මිහිපලු දැක සතුටුව සාධුනාද කළහ. ඒ පෙර දළදාගෙහි
දන්තධාතුව වඩා සියලු පෙර පූජාවිධිය වඩාලා පැවැත්වී.
156 සියලු නුවර අරම්හි සගරජුආදී බොහෝ බුද්ධපුත්‍රයෝද
157 සතුරුභයට වැඩිවූ මහත් සසරභය දක්නාහු පැවිදිබැව්
නොහැර පොත්හා ධාතුහා පිරිකර ගෙණ එයින් ගියෝ

158 පිටරට වෙසෙමින්ම සස්න රැක්කෝය. නැවත අගරජතෙ
මේද ඒ සියල්ලන් නුවරට වඩාගෙණවුත් නුවර අරම් ශුද්ධ
159 කරවා ඒ භික්ෂූන් වස්වා දහම්හි පිළිවෙත්හි හික්මෙන්ට
160 යෙදූ කල්හි සමන්ත ධර්මිකපිටකයන් විචාරා ආරාධනාකොට
161 රාජෝචාදි සදහම් නැවත නැවත අසමින් ඒ තෙමේ
විසීය.

162 සතුරුවූ නොයෙක් ඕලන්දවාසීන් අතුරෙන් යමෙක් දේ
ශාචාරය සලකනනාහුනම් ඒ සියල්ලෝ රැස්ව මන්ත්‍රණය
163 කොට "මේ ලංකාව අශේෂයෙන් ගන්ට නුපුලුවනැ" යි
නිශ්චයකොට දැන "මෙහි යමෙක් ලක්නාරජුකෙරෙහි
164 විරුද්ධවූනම් ඒ සියලු ජනයෝ විනාසභාවයට පැමිනියෝය.
165 එසේම අප්ටද වන්නේයි එහෙයින් අපිදු ලංකේන්ද්‍රයා
කෙරෙහි බැතිපෙම්හා ඉතා ගෞරව පෙරටුකොට වසමු
166 නම් ඒ සුදුසුය"යි සිතා නැවත නැවතත් මන්ත්‍රණය කොට
රජපඬුරුහා මහාමොහයෙන් ගෙන්වා ගෙණගිය යහපත්
සැයක් සෙයින් බබලනනාවූ ධාතු ශුන්‍ය (රිදීමුවා) කරඬුවද
167 රත්සිවිගෙයද ගෞරවයෙන් ගෙන්වාගෙණ (වුත් භාර
කොට) "සියනැයන්කළ දෙස් ක්‍ෂමාකරවාගෙණ මින්මතු
වසනෙනාමුය"යි සිතා ආවාවූ ඔව්හු මිහිපල්හු නොයෙක්
පරිද්දෙන් පූද වැඳ සමග සතුටුවූහ.

168 ඉක්බිති ලංකේශ්වර රජතෙමේ ඔවුන්ගේ අනල්පදෝෂය
ඉවසා ඔවුන්ට නොයෙක් පරිද්දෙන් සම්මානද දුන්නේ
169 යි— එසේම අපගේ රජතෙමේද මිත්‍රසන්ධියෙහි කරුණු
තරයේකොට ඔවුන්හා මිත්‍රභාවයට පැමිනියේයි. ඕලන්ද ජන
170 යෝද ලංකේශ්වරනරේන්ද්‍රයාකෙරෙහි මොනවට පැහැද
171 නොයෙක්රට උපන් මාහැඟි පඬුරුද රාජසන්දේශද ගෙණ
අවුරුදුපතා දෙති මනුෂ්‍යශ්‍රේෂ්ඨතෙමේ මිථ්‍යාදෘෂ්ටීන්ගේ
හස්තයටගියාවූ මහත් යහපත්වණ්ණි ඇති ඒ කරඬුව රණින්
172 ගහා මැණික් බැඳ හිරුරැස්පිඬක්සේ ශොභාමත්කරවා
173 දන්තධාතුව වඩා ශක්‍රයා සෙයින් පිදූයේයි.

174 මෙසේ දුෂ්ටමිථ්‍යාදෘෂ්ටි වෛරීසමූහයෝ දුරුකළ එඞ්
ඇතිවූහ. සම්‍යග්දෘෂ්ටික සිංහල අධිපතිහුගේ කුශලානුභා
වය ආශ්චර්යයයි සජ්ජනයෝ ආශ්චර්යඅද්භූත මේ කාරණ
175 යද සලකා ආදරසහිතවූවෝ සත්පුරුෂයන්විසින් පසස්නා
ලද අසදෘශවූ ප්‍රවර සම්‍යග්දෘෂ්ටිගුණය මොනවට ඇසුරු
කෙරෙත්වා.

176 මනරම්ලක්දිව්හි එක් භික්ෂුකෙනෙකුත් නැතිකල රාජ්‍ය
177 භාරය ලැබ ශ්‍රීවර්ධනපුරයෙහි වෙසෙමින් බොහෝ සාම

ණෙරවහන්දෑද එසේම කුලපුත්‍රයන්ද පැවිදිඋපසම්පදාවට
178 පමුනුවා (ලීය) ඒ භික්ෂූන්අතුරෙන් කිසිවක්හු දහම් දෙසන්
නෝද විනයෙහි බුහුටිවූවෝද විදර්ශකයෝද වූහ. එසේම
179 කිසිවෙක් ආරණ්‍යකද වූහ. ශ්‍රමණගුණාඪ්‍යවූ මේ මුළු ලක්දිව
මේ ආදිගුණයෙහි යෙදුනාවූ නොයෙක් සියගණන් භික්ෂූන්
180 ඇතිකරවමින් බබුළුවා ඒ රජතෙමේ දවස්පතා පින්
කෙරෙමින් සඞ්ඝයාහට නිතිබත්හා ගිලන්බත්ද ආරාධනා
181 කොට දෙමින් භික්ෂුසඞ්ඝයාකෙරෙහි වැඩකැමති ඒතෙමේ
භික්ෂූන්ටා සාමණෙරයන්දෑට කායරොග චිත්තරොග වස
182 යෙන් මෙහි රොගයෝ දෙදෙනෙක් වෙති උන් අතුරෙන්
සිතෙහි රොගයන්ට පිළියම්පිණිස දිපදෙත්තම තෙමේ
183 විනයදහම්ද සූත්‍රාන්තයන්ද දෙසූසේක. චිත්ත රොගයන්හි
රාගාදිරොග නාසනශේතුවූ ඒ විනය සූත්‍රාන්තයෙහි භි
184 ක්ෂූන් හික්මවා ඒ භික්ෂූන්ට සිරුරුරොගයෙන් පෙළිම්ඇති
කල පයඹ්‍ාතිප්‍රතිපත්තියෙහි මැනවින් හික්මීම දුෂ්කරයි.
185 එහෙයින් මිහිපල්තෙමේ ජ්වරාදිරොගයන්හුදු සමනපිණිස
සඞ්ඝයාට ආරාධනාකොට වෙදකම්හි මොනවට හික්මවා
186 වෙදුන්දෙදෙනෙකුහා පරිචාරක මිනිසුන්ද නියම කොට
187 උන්ටත් ගම්කුඹුරුද වස්ත්‍රාභරණාදි සම්පත්ද දී බෙහෙත්
මිළපිණිස අවුරුදුපතා (රිදී) සියගණන් රජගෙයින් දෙ
මින් ඒ රජතෙමේ ඒ ඒ අරම්හි භික්ෂුසාමණෙරයන්ගේ
සුවදුක් විචාරා උන්වහන්සේලාට කටයුතු උපස්ථාන කර
වී—මෙසේ රාජාධිරාජවූ හේතෙමේ සඞ්ඝලාභයද ඒ සි
යලු ලාභයන්අතුරෙන් ශ්‍රෙෂ්ඨවූ ආරොග්‍යලාභයද දෙවීය.
188 බුඩතෙමේ (යමක්) ශ්‍රෙෂ්ඨයයි දෙසූසේක්නම් එසිනුදු
පූජකොට සම්බුදුසස්න මොනවට බබුළුවා පැවැත්විය,
189 ශාසනාධාරවූ නරවරද්‍රවරවූ ඒපූර්වක ලඞ්කාධිපතිහු මිථ්‍යා
දෘෂ්ටියහා රිපුජනසමූහයාත් දුරුකොට රාජ්‍යභාරය ඉසුලූහ.
රජතෙමේ එයද අසා අපමණ යසස්දායකවූ තමා විසින්
පසක් කරණලද ධර්මයද දකිමින් ශාසනොපකාරකවූයේම
අලස නොව නිරන්තරයෙන් පින්කෙළේයි.

මෙතෙකින් හුදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
අභිෂෙකමඞ්ගලාදි දීපනනම්වූ එකුන්සියවෙනි අදියර නිමි.

# 100 වෙනි පරිච්ඡෙදය.

---

1 ඒ තෙමේ නිරනතරයෙන් ආදරඇතෙත් චක්‍රරතනය සෙ
2 යින් දළදාව පුදන්නේ සමන් සපු දෑසමනා කිණිහිරි දුනුකේ
3 පිසුම් උපුල්ආදී නන්වගෙහි මලින්ද සඳුන්අගිල්ආදිවූ සු
ගන්ධයෙන්ද නන්සුවඳැති දුම්න්ද සකුරුමී ආදියෙන්ද යහ
4 පත් පුවක් කපුරු බුලත් බෙහෙතින්ද මනා මිහිරිබත්කෑඳ
පු ආදිවූ නන්වැදෑරුම් ආහාරයෙන්ද මනාපැහැඇති රඹ
5 අඹයෙන්හා පනා අඹ බොරළුදමුනුයෙන්ද තිඹිරි නාරඟ
හා ප්‍රණීතමනොඥ තැඹිලිහා කසපැනින්ද මනාවිලිකුන්
දෙළුමෙන්ද ඉදි මිදි ආදිවූ නන්වැදෑරුම් ඵලයෙන්ද මිහිරි
6 අලදෑයෙන්හා නොයෙක් බොඩජතියෙන්ද නොයෙක්
7 පරිද්දෙන් මේ ආදිවූ පූජාහා පසඟතුරුරැවින් පෙර
8 රජුන් පවත්වා ආ බොහෝ පූජාවෙන්හා අලුත් පූජාවෙන්ද
ජිනපතා දළදාවහන්සේ පුදා පින්කැමති මහායසස් ඇත්
9 තේ පින්රැස වැඩිසේම වඩමින් රන්රිදියෙන්හා මිණිමුතු
යෙන්ද යහපත් නන්විසිතුරු කමින් දිලියෙනනාවූ බො
10 හෝ වස්ත්‍රයෙන් (බඳනාලද) වියනින්හා තිරයෙන්ද සිවුරු
11 හා පිරිකරින්ද නන්වැදෑරුම් අබරණින්ද නොයෙක් ඇත්
අස්මුලින්හා එසේම ගෙරි මීවුන්ගෙන්ද නොයෙක් දැසි
දස් වගින්හා බොහෝවූ ග්‍රාමක්ෂෙත්‍රයෙන්ද පූජාකොට
12 ආදරසහිත ඒ නරෙන්ද්‍රතෙමේ අභිවාදනය කෙළේය. බුදුන්
දළදාවහන්සේ බලා සුපහන් මිහිපල්තෙම පෙරරජුං දවස
13 කරවා නොනිමියාවූ රන්මුවා කරඬුවද කරවන්ට සිතා සත්
14 නිකක් අධිකකොට ඇති රන් දෙදහසෙකින් කරවනලද
15 මැණික්වන් මනහර ඒ කරඬුව මුදුනෙහි මාහැඟි උතුම්
මහත් විදුරක් මනාකොට බැඳවිය. පින්කැමති මිහිපල්තෙ
16 මේ ප්‍රසාදවහ දැකුම්කටයුතු අටසැටක් අධිකවූ එක්සියයක්
වරවිදුරුම්ණිහා මනොහරවූ එක්සැත්තෑවක් අධිකකොට
17 ඇති එක්සියයක් පුෂ්පරාගම්ණිරුවන්ද බැඳ අසූපසක්
අධික කොටඇති නිල්මිණියෙන් පන්සියයක්ද අටසියඅසූ
18 වක් අධිකකොටඇති සාරදහසක් රත්මිණිරුවන්ද බැඳ
19 අටසැත්තෑවක් අධිකකොටඇති මුතු සත්සියයක්ද බඳවා
20 මාහැඟි කරඬුව නිමිකල්හි ඒ ඇතුළෙහි තබනපිණිස

කරඬුදෙකක් කරවන්නේ එහි මාහැඟි උතුම් යහපත් මිණි
21 බඳවා යසස්ඇති විමල දහම්සූරියරජහුවිසින් කරවනලද
22 මහත්වූ කරඬුව ඒ රජතෙමේ රන් ගහවා මහපුද පවත්ව
මින් එහිම බුදුරජහු දළදාව වැඩූයේය.

23 ඒ මහපැණැති රජතෙමේ බුදුන් දළදායෙහි ඉතා පහන්
වූයේ අකරබඩුනම් මහගම පූජා කෙළේය. රජතෙමේ ඒ
24 ධාතුපෙළහරෙහිදී ලඞ්කාවාසීන්ට දළදාවහන්සේ දක්වනු
25 පිණිස කරුණාවෙන්සිතා මුළුශ්‍රීවර්ධනපුරය මොනවට ශුද්ධ
කරවා නන්විසිතුරු කමින්ද පිළිතොරණින්ද කෙසෙල්
26 තොරන්පෙතින්හා තැඹිලිවලු ආදියෙන්ද නොයෙක් ධජ
27 පතාකාවෙන් අතුරු නැතිව සරසවා මුළුලක ජනයා එහි
28 රැස්කරවූයේ මිහිපල්තෙමේ නන්අබරණින් දෙව්රජ
සිරින් හෙබියේ නන්වැදෑරුම් මහපුදපෙරටුකොට ගෙණ,
29 දළදාගෙට ගොස් නොයෙක් පරිද්දෙන් පූජාකොට බිම
30 පසඟපිහිටවූ මිහිපල්තෙමේ බුදුන් දළදාවෙහි ගෞරව
ඇත්තේ වැද දළදාවහන්සේ සහිත රන්පි[illegible]ම හඤපද්ම
31 මඤනකයෙහි වඩාගෙණ ඒ දළදාගෙන් පිටත්ව රිදීකුඩ
32 යෙන්හා සෙමෙරවල් විජිනියෙන්ද රන්රිදී මලින්හා ලදෑ
පස්මලින්ද නොයෙක් මිණිමුතුයෙන්හා රන්රිදීයෙන්
33 නන්විසිතුරු පිළියෙන්ද නන් අබරණින්හා නොයෙක්
සුවඳ මලින්හා බොහෝවූ පහන් දුමින්ද සක් කස්තල ආදිවූ
34 පසඟතුරුපිළිබඳ මනාරවයෙන්ද නන්දහස් සාධුකාරධ්ව
නියෙන්ද සයුර තරඟවැලසෙයින් කරණු ලබන පූජා පවත්
35 නා කල මහා යසස්ඇතියේ සක්රුවනසහිත සක්විති
රජක්හු සෙයින් ගොස් විවිධවිචිත්‍රඅලඞ්කාරවස්ත්‍රාදියෙන්
36 සරසනලද දිව්‍යමණ්ඩපයක්බඳු යහපත් ප්‍රවරමඩපයෙහි
සිටියේ. ජනශ්‍රෙෂ්ඨරජතෙමේ දෙවසමූහයාවිසින් පෙරටු
37 කරණලද දෙව්රජහුසෙයින් කලාලක්ෂගණනිනුත් ඉතා
38 දුළීභවූ යහපත් බුදුන්ගේ වරදළදාව ජනසමූහයන්ට දක්
වමින් සියල්ලන් සතුටු කරවා සැසල්රැස රැස්කෙරෙමින්
39 කරඬුඇතුළට වැඩූයේයි. මෙසේ ජීවමාන බුද්ධදර්ශනය
සෙයින් සර්වප්‍රකාරයෙන් ජනසමූහයාද සතුටුව පින්රැස
වැඩූයේයි.

40 ජනයාහට හිතවැඩකරු රාජමහිමඇති බුදුසසුන් මනා
කොට පිහිටුවීමෙන් හටගත් නන්වැදෑරුම් අපමණ පින්
ඇති මිහිපල්කුලඅබරණබඳුවූ මනාගුණයෙන් හෙබියාවූ
මිහිපල්තෙමේ බොහෝ කාලයක් මුළුලෙලහි සියලල දිනේ
වා සියලල දිනේවා සියලල දිනේවා.

41 පුණ්‍යකීර්ති රජතෙමේ මෙසේ නොයෙක්වර දළදාව දක්වා
42 බොහෝ පින් රැස්කෙළේයි. බුදුරජු දළදාව උදෙසා පෙර
43 ලක්හිමියන්විසින් පිදූ ගම් කෙත් මදකුත් නොනසා ඉතා ප
හන්වූයේ දවසක්පාසා මහපූද පවත්වමින් බොහෝ ඇ
44 තුන් අසුන්ද එසේම ගෙරි මීසරක්ද සමෘඬවූ මිනිසුන්සහිත
45 රදාතලනම්වූ එක්ගමක්ද අනිකුත් මූතුගලනම්වූ මහ ග
මක්ද පූජකොට ඒතෙමේ පුණ්‍යසාරය අත්පත් කෙළේය.

46 සාසනසුඬිකැමති ඒතෙමේ ලක්දිව්වරයෙහි පෙර භි
ක්‍ෂූන් විද්‍යමානකල පැවිදිලද්දාවූ සියලූ හෙරණ පැවිදිව
47 හන්දෑ අතුරෙන් පවට බානසුලූ සමහරු මනාසිල්හා පිරිසිදු
ආජීවඇති සදහම් බුහුමන් ඇත්තෝ වූහ—සමහරු පවි
48 න් බරවූ දුස්සීලවූ පාපස්වභාවඇතිව අඹුදරුආදීන් රකිමින්
ගිහිකිස ඇලූනාහුය. නැකැත්වෙදකම් ආදී අයුතු කටයුත්
49 තෙහි යෙදුනාහුය. රජතෙමේ එබඳු අලජ්ජීන්ගේ පවත්ද
අසා මොනවට දැන සත්පුරුෂ ලජ්ජීපක්‍ෂගතයන් අතුරෙන්
50 පිරිසිදු ආජීවඇති අරණ්‍යවාසීවූ බුදුසසුන් වැඩූම් පිණිස
51 කරණලද උත්සාහඇති සිල්වත් ගුණවත් බහුශ්‍රුතවූ ව්‍යාක
රණයෙහිද බුඬවචනයෙහිද විසාරදවූ සරණඞ්කරනම්
52 ප්‍රසිඬ ඒ සාමණේරවහන්දෑ මැනවැයි සිතා උන්වහන්සේ
ගේ ආධාරයෙන් රජතෙමේ දහම්වූ නියායෙන් විචාරමින්
53 ඔවුන්ට නිග්‍රහ කොට "මෙතැන්පටන් නැකැත් වෙදකම් ආ
දිවූද (අන්‍යවූද) අකතීව්‍යයන් හැර පැවිදි සියලෙලෝ හැම
54 කල බුඬවචනයන්ද පිළිවෙත්ද රකිත්ව "යි මොනවට අව
වාදයත් දෙවා ඉතා පසුබැස්සාවූ සස්න වඩනා කැමති ඒ රජ
55 තෙමේ ලජ්ජීන්ට බලදී නානාඋපායෙන් සස්නට සඞ්ග්‍රහ
කෙළේය.

56 මුළුලක්දිව උපසම්පන්න භික්‍ෂූන්ගේ අභාවයෙන් මුනි
57 රජහු සුවිමල්සස්න විනාසවන්නේයයි කම්පිතවූ මිහිපල්
තෙමේ "මාවැනි රජක්හු ලක්රජය කරණකල බුඬශාසන
58 යාගේ විනාසය යුතුනොවන්නේය"යි සිතා පෙරරජහු දවස
59 භික්‍ෂූන්ගෙණනට ඒ ඒ තැන (ඇමතියන්) යවා නොලත්
60 ඒ ශාසනවෘඬිය මමම කරන්නෙමැයි සිතමින් ජනප්‍රධානවූ
මහපින්ඇති මිහිපල්තෙමේ මහර්ෂිශාසනයාගේ චිරස්ථි
61 තියම කැමැතිවමින් බුඬපුත්‍රයන් ගෙණ ඊමපිණිස බුදුන්
පිරිනිව්තැන්පටන් දෙදහස්දෙසිය අනූතුන්වස පැමිනිකල
62 නොයෙක් ආකාර පඬුරින්හා නොයෙක් පූජවස්තුයෙන්
යුක්තවූ උතුම් රාජසන්දෙශද දී අයොධ්‍යපූරවරයට ඇමතිය
නුදු යැවීය.

63 මෙසේ ලඞ්කානායකතෙමේ බුදුසසුන් සුවිශොධනය
කරණු කැමැත්තේ නවර්ධනය ආරම්භකෙළේය. ඒ ඇම
64 තියෝ රාජසන්දෙශාදිය ගෙණ මහපෙළහරින් මහත්
65 ගෞරවයෙන් පිටත්වූහ. ලඞ්කාආරක්‍ෂායෙහි නියුක්ත
ඕලන්‍ද මිනිසුන්හා නැව්නැගී ගොස් සියාම්දෙශයෙහි අ
66 යොධ්‍යපුරයට පැමිනිකල එරට මිහිපල්තෙමේ රාජසන්දෙ
67 ශාදිය පිළිගෙණ විධිවූපරිද්දෙන් ඇමතියන්වද කටයුතු ස
68 ඞ්ග්‍රහ මොනවට කරවා උතුම් රාජසන්දෙශය බැලීය. නුවනැ
ති බුදුබැව්මපතමින් දසපෙරුම් පූරනනාවූ සස්න මොනවට
69 රක්නාවූ ධාර්මිකනම් ඒ නරපල්තෙමේ ලක්දිව්හි බුදුස
සුන් පිරිහුන්බැව් ආදිවූ සියලු පවත් දැන වෙසෙසින්ම කාරු
70 වූයේ “මමවනාහි එහි බුදුසසුන් වැඩුම්කරන්ට උපස්තම්භක
71 වනෙනම් ”සි සිතීය. ඒම්හිපල්තෙමේ සියාම් ජනපදයෙහි
සඟරජුආදී බොහෝවූ බහුශ්‍රුත ධර්මධරයන්ද පැවිදිව
72 බොහෝ කල්ගිය (තෙරුන්ද) විනය දනනා මහතෙරුන්හා
ශාසනකෘත්‍යකාරක සමත් (තෙරුන්ද) රැස්කොට මොන
73 වට විචාරා අල්පෙච්ඡසන්තුෂ්ටගුණයන්ට ආධාරවූ ආචාර
74 ශීලාදිගුණයෙන් යුක්ත උපාලිස්ථවිර ප්‍රමුඛ අතිරෙකදශව
ර්ගික සඞ්ඝයා ආරාධනා කොට ලක්දිව්හි නැති ධර්මවිනය
75 පුස්තකයන්ද රන්පිළිමයක්හා උතුම් රන්පොතක්ද ලක්දිව්
මහරජානන් කෙරෙහි පඬුන්ව උතුම් රාජ සන්දෙශයක්හා
76 නොයෙක් පඬුරුද අයොධ්‍යපුර රාජාමාත්‍යයන්ද වෙසතුරු
රජුවැනිවූයේ ඒ රජතෙමේ ලක්දිව වර දළදාමැදුරට
එව්ය.

77 මෙසේ රන්පිළිබිඹුආදිය සපයා යම්නැවක් එවනලද්දිද
ඒ මහනැව්තොමෝ බොහෝ උපද්‍රවඇති අනෙක භයින්
78 ආකීර්ණවූ ගැඹුරුමුහුද උපද්‍රව රහිතවම අවුදින් යහපත්
ලක්දිව්හි ත්‍රිකොණමලයතොට පැමිනියාය. ලඞ්කාධිපතිවූ
79 ඒ මහරජතෙම එපවත් අසා ශ්‍රීවර්ධනපුරයෙහි සියලු නුව
80 රුන් රැස් කරවා මහසැණකෙළි කරවමින් පහන්රජතෙ
81 මේ මහමුහුද පටන් ශ්‍රීවර්ධනපුරය යම්තාක්නම් එතෙක්
මාර්ගය ශුද්ධ කරවා ඒ ඒ තැන ආරාමයන්ද කරවී. ඒ ජ
82 නෙන්ද්‍රතෙම මහසෙනෙවි ආදිවූ ඇමතියනුදු යවා බුදුන්
පිළිරූහා දහම්පොත් බික්සඟන ආදිසියල්ල යථාක්‍රමයෙන්
83 ගෙන්වා මහත් ගෞරවයෙන්හා මහත් පෙරහරින්ද දුරැම
84 ගගෙවා සමනලගලින් වැටුනාවූ මහවැලිගඟවෙත පැමිනි
කල ශ්‍රීවර්ධන පුරාධීශ්වර පුණ්‍යකාමී ජනශ්‍රෙෂ්ඨතෙමේ තුනු
85 රුවන් සඳහා පෙරගමනින් උපදනා එලය කැමැත්තේම

86 ඇත් අස් ආදියෙන්හා බලසෙනගින් පෙරටුකරණලද්
දේ පෙරගමන් කොට ශ්‍රද්ධාවෙන් උතුම්වූ මහතෙරුන්ආදී
87 මහසඞ්ඝයා වැඳ එකෙණෙහි සතුටුවී. සමග සතුටුවියයුතුවූ
කථාවද මොනවට කොට නිමවා තුණුරුවන් පෙරටුකොට
88 ගෙණ සියපුරයට අවුත් පුෂ්පාරාමයෙහි මනාතැනෙක කර
89 වනලද මනරම්වූ උළුසෙවෙනිඇති අලඞ්කෘත සඞ්ඝාරාම
යෙහි ප්‍රවර ඒ භික්ෂුසඞ්ඝයා වස්වා ඉන් පසු සකස්කොට
90 (සිවූ) පසයෙන් උපස්ථානකෙරෙමින් දවස්පතා සැපදුක්
පිළිවිසිනට ඇමතියකුදු නියෝග කෙළේයි.

91 අයොධ්‍යපුරයෙන් ඒ මහරජහුවිසින් එවනලද රාජසන්දෙ
92 ශාදිය ගෙන්වාගෙණ ආවාවූ රාජදූතාදී ඇමතියන් සුදුසු
තන්හි වස්වා ඒ ඇමතියන්ට කටයුතුසඞ්ග්‍රහ කරවා බුදුන්
93 පිරිනිවිපසු දෙදහස් දෙසිය සයානූවන ඒ අවුරුද්දෙහි ඇ
94 සළමස සැපැමිනි පුණුපොහෝදවස්හි මහබලඇති ඒ මහ
95 රජතෙම මහත් රාජානුභාවයෙන් යුක්තවූයේම ආරාමයට
වැඳ ර් මැද යහපත් පොහෝගෙහි මොනවට අසුන් පණවා
96 ශීලාචාරගුණයෙන් යුක්ත නිපුණ උපායදනනා මහඋපාලි
තෙරුන්ද සියලු සතුන් හිතවැඩෙහිඇලුනු දෙවෙනි අරිය
97 මුනිතෙරුන්ද සඞ්ඝයා සමග වඩාගෙණවුත් වැඩහිඳුවා
98 උන්වහන්සේලා ලවාම ලඞ්කාන්‍ද්‍රරජතෙමේ එකල්හි මහ
පෙළහර පවත්වමින් ලක්දිව්හි හෙරණුන්දෘ අතුරෙන් ප්‍ර
ධානයන්ට උපසම්පදාව දෙවී.

99 එතැන්පටන් සද්ධර්ම ශබ්දශාස්ත්‍රයන්හි සමත්වූ හෙරණ
පැවිදි ආදීන් ගෙන්වා උපසම්පදා දෙමින් එසේම අනුක්‍රම
100 යෙන් උතුම් බුදුසස්නෙහි පැවිදි උපසම්පදාවට සුදුසුසන්
101 මොනවට විචාරා ඔවුන්ට මනාකොට පැවිදි උපසම්පදා
දෙවා ලක්දිව භික්ෂුසඞ්ඝයා බොහෝවූකල උන්වහන්සේ
102 ලා අතුරෙන් ආගම පිළිවෙත්රැකීමෙහි නිති අදරඇති ස
මත්වූ ගුරුතන්හි තැබියයුතු වහන්දෘ විචාරා අයොධ්‍ය
103 යෙන් වැඩි සඞ්ඝයාකෙරෙහි හික්මෙනුවට උන්වහන්සේලා
මෙහෙයා, බුදුසසුන්කරු ඒ ලජ්ජීභික්ෂූන් අතුරෙන් ලක්
104 දිව බොහෝකලක් විනාසචාරයට ආවාවූ බුදුසස්න බබු
ළුවන්ටම යමෙක්තෙමේ බොහෝ කාලයක් කළඋත්සාහ
105 ඇත්තේද, යමෙක්තෙමේ අනලසවූයේ රුදෙවෙහි බුදුස
සුන් පිළිබඳ දහම්හා පිළිවෙත් නුවනපමණින් බලපම
106 ණින් බැබලවීද, එසේම යමෙක්තෙමේ අන්‍යවූත් බොහෝ
ශිෂ්‍යයන් දහම පිළිවෙත සකසා හික්මවා මෙහි සස්න බැ
107 බලවීද, යමෙක්තෙමේ ස්වාර්ථයෙහිත් පරාර්ථයෙහිත් යෙදු

තේ බුදුන් සසුන් කලක් පවත්වනු, කැමැත්තේද එසේම යමෙක්තෙමේ සුධාජීවයෙහි ඇලුනේද යමෙක්තෙමේ ලක්
108 දිව්හි හිතකාමි සියලු බුඩපුත්‍රයන්ට ගුණශීලධූතගාදියෙහි
109 දී කැඩපතක් බඳුවිද, යමෙක් සාමණෙර කාලයෙහි සර ණඩකරණම්විද, උපසම්පදාවූ පසු ශීලාචාර සම්පන්න ඒ
110 ජිනපුත්‍රයන්වහන්සේ සඞ්ඝරාජභාවයෙහි පිහිටුවා උන්ව හන්සේ අනුගත භික්‍ෂූන් අතුරෙන් බුදුසසුන් කටයුතුනොහි
111 යමෙක් දක්‍ෂනම්, එසේම යමෙක් සුපෙසලනම්, විහාරදෙ ක්හි වැසි එබඳු වහන්සේද විචාරවා උන්වහන්සේලාට
112 තනතුරුදී බුදුසසුන්කරු සියලෙලා් සමගිව රුදෙවෙහි නොමැලිව විනය යම්සේනම් ධම්මය යම්සේනම් එසේම
113 කළමැනවයි නියමකොට රජතෙමේ බොහෝ සඞ්ග්‍රහ කොට කලක් පැවැත්මපිණිය මෙසේ මොනවට ලක සසුන් බැබලවී.

114 සියාම්දෙසයෙන් මෙහි පැමිනි රාජදූතාදීහුද රාජසන්දෙ
115 ශාදිය දී රජහු දුටහ. ලක්දිව්නා මහරජ ඒ සියල්ල පිළි
116 ගෙණ ප්‍රවර රාජසන්දෙශය යෙහෙන් බලා පහන් මිහිපල් තෙම ඔවුන්ට සඞ්ග්‍රහද කෙළේය. තමා සඳහාත් අනුන්
117 සඳහාත් නැවත නැවත සසුන් වඩනු පිණිස කළ පින්ඇති දහම් කැමති සසුන්හොබවන යහපත් නැණැත්තේ ආරා
118 මයට පිවිස සගමැදට ගියේත් සසුන් පැවැත්මට කරුණු නොයෙක් පරිද්දෙන් විචාරා සසුන්ම බබුලුවන්ට සිතමින්
119 මිහිපල්තෙමේ ප්‍රවර උපාලි මහතෙරුන් සකසා ආරාධනා
120 කොට දික්සඟියෙන්ද සංයුත්සඟියෙන්ද (අනිකුත්) සඩම්ම සඞ්ග්‍රහාදීන් අතුරෙන් නොයෙකුත් ග්‍රන්ථයෙන්ද දශප්‍රකාර
121 යෙන්වූ රාජධම්මයන්හා සිවුසඟරාවතුන්ද යන මේ ආදිය අසා උපන්සැදැහැ ඇති මහපැණැත්තේ කටයුතු නොකට
122 යුතුද පින් පව්ද වරද නිවරදද දැන නොකටයුතු පාප ධම්මයන් හාවරද දුරුකොට කටයුතු දහම්හි සහ අනවද්‍ය යෙහි තමා යෙහෙන් පිහිටවී.

123 දවසක් දවසක් පාසා දානාදි නොයෙක් පින්කම් කෙරෙ මින් මුළුනුවර පෙර (කීවාක්) සෙයින්ම අලඞ්කාරකරවා
124 අයොධ්‍යයෙන් ආ ඇමතියන්ද එසේම ලඞ්කාවැසි සියල් ලන්ද උපාලිමහතෙරුන් ආදී භික්‍ෂූන්ද එසේම ලක්දිව්
125 වැසි (නවක) භික්‍ෂූන්ද සාමණෙර ආදිවූද සියල්ලන් රැස් කරවා ආදර සහිතවූයේ ඒ සියල්ලවුන්ගේ වැඩ සඳහාත්
126 හිතසුවසඳහාත් රාජාභරණාදි නොයෙක් පූජාවස්තුවෙන් පෙ රසෙයින් සැණකෙළි පවත්වමින් දළදාවහන්සේ දැක්විය.

127 මියුගුනු සෑආදිවූ චෛත්‍යස්ථාන වඳනා කැමති රාජදූතාදී
128 ඇමතියනුත් ලක්දිව්හි ඇමතියන්හා ඒ ඒ තන්හි යවා රිසි
සේ වඳවමින් ඔවුන්ට කටයුතු සඞ්ග්‍රහ මොනවට කරවා යැවී.
129 එසේම ප්‍රවර උපාලි තෙරුන්ආදී භික්‍ෂුසඞ්ඝයාත් පූජාවස්
130 තුන් දී ඇමැතියනුදු මෙහෙයා, මියුගුනුආදී ලක්දිව උතුම්
සොළොස් (මහා) ස්ථානයන්හා ශ්‍රීවර්‍ධනපුරාදියෙහි චෛත්‍ය
131 යන්ද වඳවා බඩසීමා කරවා භික්‍ෂූන් වැඩෙහි කැමැතෙත්
පොහෝගෙවල්හා ආවාසයන්ද තන්හි තන්හි කරවී. භික්‍ෂු
132 සඞ්ඝයා කෙරෙහි මොනවට පහන් ඒ රජතෙමේ තුන්අවු
133 රුඳුඇතුළත අරම්ද කරවා භික්‍ෂුසඞ්ඝයා වස්වා වස්කල ක
134 ටයුතු උපකාරයනුදු කරවා සදහම් අසා පොහෝපෙහෙවස්
විසී, සඞ්ඝයා පවාරණයකළකාලයෙහි නොයෙක් පිරිකරින්
135 හා පිරිවර සිවුරෙන්යුත් කෙළින් සිවුරු දුන්නේය. තුන්හවු
රුදු ඇතුළත උතුම් ඒ සඞ්ඝයා කෙරෙහි සත්සියයක්පමණ
136 උපසම්පදා කරවමින් ජනසමූහයාකෙරෙහි හිතකාරී රජතෙ
මේ තුන්දහසක් පමණ කුලපුත්‍රයන්ට හෙරණපැවිදි දෙවී.
137 ලොවට පථ්‍යකාරී ජනාධිපතිරජතෙමේ මෙසේ ශාසන
වෘද්ධිය කෙළේය, එහෙයින් සතුටුසියල් බ්‍රහ්මසුර අසුරයෝ
ඒ මහිපයා හට ශ්‍රී ආයු දෙත්වා.
138 ලක්සසුන් වැඩුම්හි බොහෝ උපකාරකරවූ මනාපැණැති
ධාර්මිකනම් (සියම්) නරපතිතෙමේ බුදුබවම පතමින් සීලා
139 චාරගුණයන්ට වාසභවනවූ සැදැහැ ආදිගුණයෙන් හෙබි
යාවූ මහාවිශුද්ධාචාර්‍යතෙරුන්ද ගුණකරවූ තියුණු බුද්ධි
140 ඇති වරඤාණමුනිනම් අනුතෙරුන්ද යන දෙදෙනා ප්‍රධා
නකොට ඇති දශවර්ගාතිරෙක සුපෙසලසඞ්ඝයා ඒ අයොධ්‍ය
141 පුරයෙන් සූකරසංවත්සරයෙහි ලකසසුන් වැඩුම් පිණිස
142 නැවත ලක්දිවට එවූයේයි—ඒ සඞ්ඝයා මෙහි පැමිනි
කල මහායසස්ඇති ලක්රජතෙමේ පෙර සෙයින් මහත්
143 ගෞරවයෙන් නුවරට වඩාගෙණවුත් මල්වතු වෙහෙර වස්
වා සාදරයෙන්ම දවස්පතා නිතිබත්ආදී සියලල පෙර යම්
සේනම් පසුත් එසේම දුන්නේය.
144 ප්‍රවර ඒඋපාලිමහාස්ථවිරතෙමේද තුන්හවුරුදෙහි ශාසනා
ශාසන වෘද්ධිපිණිස රුදෙවෙහි නොපමාවූසේක්ම කටයුතු
145 කිස කොට පින්රැස රැස්කළකල්හි උපන්නාසිකා රොගයක්
ඇතිව එසින්ම ඉතා මිරිකුණුසේක. ගිලන්බවට පැමිනි
146 ඒ උතුම් මහතෙරුන්ට සිංහලාධිශ්වරතෙමේ මනාකොට
147 බෙහෙත්හා උපස්ථාන කරවමින් නැවත නැවත ආරාමයට
ගොස් රොගයෙන් බැගෑ මහතෙරුන් දැක කම්පිතසිත්

148 ඇතෙත් අසාධ්‍යයයි දැන පූජාවස්තුවෙන් නොයෙක් පරිද්
දෙන් බුදුපූද පවත්වා ප්‍රාප්තිදානයද දෙව්—පසුව කළු
149 රියකලාවූ තෙරුන්වහන්සේගේ ශරීරයත් මහඟු පිළිගෙ
යක තබා සකස්කොට මහපෙළහරින් වඩාගෙණවුත් නො
150 යෙක් පූජාවිධානයන් පවත්වමින් ජනශ්‍රෙෂ්ඨතෙමේ ආදා
හනකෘත්‍ය කරවා පින්රැස්කෙළේය.

151 "ලක්දිව බුද්ධශාසනයාගේ වෘද්ධිපිණිස දෙවරක් භික්‍ෂුසඞ්ඝ
152 යා එවීමෙන්හා මුළු ලක්දිව එක්භික්‍ෂුකෙනෙකුත් නැති
කල නොයෙක් සියගණන් භික්‍ෂූන් පහළකිරීමෙන්ද මෙහි
153 නොතිබුනාවූ නොයෙක් පොත් එවීමෙන්ද ස්‍යාමදෙශනා
154 යක ධාර්මිකනම් නරශ්‍රෙෂ්ඨතෙමේ මුනිසසුන් වැඩුම්හි උප
155 කාරකය" යි දැන "බොහෝ උපකාරකළ එබන්දහට මමද
කටයුතුසඞ්ග්‍රහ කරන්නෙමැ"යි සිතා බුද්ධදඨාධාතුයෙහි සට
156 හනක්ද මහඟුමිණිරුවණකින් නෙළු බුදුපිළිරුවක්ද දකු
ණට කරකැවුනාවූ සක්ආදි නන්වැදෑරුම් බොහෝ පඬුරුද
157 ප්‍රවර රාජසන්දෙශයක්ද දී ඇමතියන් නියමකොට සියරට
වඩනා කැමති භික්‍ෂුසඞ්ඝයාත් ඔවුන් සමගම සියරට යැවූ
යේය.

158 මහත් ගෞරවයෙන් ඒ සියල්ලනුදු ගෙණ ඒ ඇමතියෝ
159 ගොස් ඒ සියම්දෙසයට පැමිනිකල ධාර්මිකරජතෙම ඉතා
තුටුසිත් ඇත්තේ බුදුදළදා ලකුණුආදිය බලා රිසිසේ බුදු
160 දළදාව ලද්දෙකුසේම පහන්වූයේ දවස්පතා මහපෙළහර
කරවමින් රාජසන්දෙශයෙහි ප්‍රකාශවූ සසුන්වැඩුම් ආදියෙහි
161 පින්දිම්ආදිවූ බොහෝ වචනයත් අසා දැන ලක්රජහට
162 පැහැද ලක්දිව්හි නැති බොහෝ පොත්ද ශ්‍රීපාදලාඤ්ඡන
163 යක්ද බුද්ධදංෂ්ට්‍රාධාතුවට පූජාපිණිස රන්මඬු කුඩද රාජපරි
භොගයට සුදුසු නන්වැදෑරුම් දකුම් කටයුතු මනරම් පඬු
164 රුද තමන් විසින් කරවනලද උපසම්පදාදී සියලු පින්කම්
හි පින්දදී දෙරජුන්ගේ මිත්‍රබන්ධනයට යුතු කාරණයන්
165 ප්‍රකාශකොට ලියනලද උතුම්රාජසන්දෙශයක්ද යන සියල්ල
දී ප්‍රවර මනාලක්දිව් එවී.

166 මහායසස්ඇති ලක්රජතෙමේ ඒ සියල්ල ගෙණ සදහම්
167 පොත්හා මුනිපාසලකුණුආදිය දැක සතුටුව මහාපූජාද මහ
පෙළහරද කරවා සියල්ලන්ට දක්වී—සන්දෙශය බලාත්
168 එහිප්‍රකාශවූ ප්‍රාප්තිදානාදි මිත්‍රබන්ධන ප්‍රකාශ බොහෝ වචන
169 යන්ද මනාකොට දැන පින්අනුමෝදනාවෙන්හා අතිසොම්
නසින් යුත් සිංහලාධිශ්වරතෙමේ "සසුන් වැඩුම්ආදිවූ පින්
170 කමින් උපන් ඵල සාන්දෘෂ්ටික වසයෙන්ම දර්ශනය කෙළෙ

171 මෑ ” සිද “ ආයතිභවයෙහි මනාකොට වින්දයුතු ඵලයෙහි
කථාම කිමෑ ” සිද සිතා මෙසේ තුණුරුවන් විෂයෙහි යෙ
172 හෙන් පහන් ඒ මිහිපල්තෙමේ ආරමයට වැද දෙවෙනිවර
වැඩියාවූ මහතෙරුන් කෙරෙන් සදහම් අසා ලක්වැසසන්
173 අධීශ්වරතෙමේ පළමුවැඩි සඞ්ඝයාකෙරෙහි උපසපන් භි
174 ක්‍ෂූන් විශුද්ධාචාර්‍ය්‍යාදි භික්‍ෂුසඞ්ඝයාකෙරෙහි හික්මෙන්ට නි
යොග කොට අන්‍යවූත් බොහෝ කුලපුතුන් ඒ තෙරුන්
කෙරෙහි යෙහෙන් උපසම්පදාකරවී.

175 ඒ ලක්වැසි භික්‍ෂූන් අතුරෙන් ගුණයෙන්හෙබි කිසිවෙක්
176 මහාවිශුද්ධාචාර්‍ය්‍යනම් තෙරුන්වෙත නිවන්මංවූ ඒ විවසුන්
උගත්හු. සමහරු වරඤාණමුනිනම් අනුතෙරුන්වෙත සද
177 හම් විනය අරුත්හා සදසතරද උගත්හ. මෙසේ ලකිසුරු
178 රජ දහම්හිද පිළිවෙත්හිද ලඞ්කාභික්‍ෂූන් නියෝගකොට බුදු
සස්න රැක්කේසි. ඒ ලක්දිවවැසි භික්‍ෂූහුද පමානොව තුව
179 නැතිව ශීලාචාරධූතඅල්පෙච්ඡආර්‍ය්‍යවංශයන්හි යෙදුනාහු
180 මැලිනොව අලසනොව බුදුසසුන්හි පිළිපදනෝ රැදෙවෙහි
නොපමාව ග්‍රන්ථධුරවිදර්ශනාධුරඇත්තෝවූහු. සෙනසුන් දිම්
ආදියෙන් ඒරජතෙමේ උන්වහන්සේලාට සඞ්ග්‍රහකෙළේය.

181 සියරට වඩනාකැමති දෙවෙනිවර සියාම් දෙශයෙන්
මෙහි වැඩි භික්‍ෂුසඞ්ඝයාත් ඒ රජතෙම ඕලන්දවෙළඳුන්ගේ
182 උපකාරයෙන් වැඩමවී, ශ්‍රීවර්ධනපුරයෙන් නැගෙනහිරිදිග
183 ඉතාදුරුනොවූ හොබනාතැන සුපිහිටිගලෙක ගල්වඩුවන්
ආදී දක්‍ෂවූ කම්කරුවන්ලවා (වඩු) නවරියන්පමණ උස්
184 උතුම් සිටිසෙල් බුදුපිළිරුවක් මනාකොට කරවා රන්පටින්
185 වස්වා දිවමනුබුදුන් බඳු ඒ බුදුරුව ඇතුල්කොට උස් ගන
186 මනා බිත්කරවා මනහර ගල්ටැම් හිඳුවා යාපත් දෙමහල්
187 ගෙයක්හා විසාලමලුවක්ද කරවා දැකුම්කටයුතු එහි මහත්
මැදුරද කරවා පවුරු මඩුආදියද මනාකොට කරවා නන්
188 විසිතුරු වතින් වියන් තිර බැඳ ඊ වටා තොරනුදු අතුරු
189 නැති කොට බඳවා නානා අලඞ්කාරයෙන් නොයෙක්
පරිද්දෙන් සරසා නානා ධවජ පතාකාවන් ඒ ඒ තන්හි
නංවා එහි නෙත්තබන පින්කම් දවස්හි පහන්පෙත්
190 දල්වා පුන්කලස් තබ්බවා මංගලසම්මත විවිධ විධානයද
191 එහි කටයුතු සියල්ලද මොනවට සදවා එහි විසිතුරුසිත්තම්
කළවුන්ට රිසිසේත් වස්ත්‍රාභරණාදි බොහෝද දී නොයෙක්
192 පරිදදෙන් උත්සතුටු කරවා, සක්කස්තලආදි තූර්‍ය්‍යයන්ගේ
193 මහහඬ මහසයුරු ගොසසෙයින් මනහරකොට පවත්වා
මඞ්ගලසම්මත නැකැත් මොහොත්ඇති මිනායයි සිතෙන

194 සපහත් දිනෙක නෙත් තබ්බවා මහපෙළහර කෙරෙමින්
නොයෙක් රිදිපාත්‍රද බොහෝ රිදිභාජනද මහඟු පිරිකරද
195 මාහැඟි තුන්සිවුරුද පතාකාහා ධවලච්ඡත්‍රද වල්විදුනාද
මේ ආදි සහපත් හොබනා සියලු පූජාවස්තූන් බුදුපූද අනු
196 සස් මෙනෙහිකෙරෙමින් ජීවමාන බුදුන් හමුයෙහි සෙයින්
197 විශෙෂයෙන් පහන් සිතින් පින්කැමැත්තේ පිදූයේය. බො
198 හෝවූ මිහිරිආහාර කැඳඅවුලුආදි නානා ආහාර වර්ගයන්ද
සකුරු මී බුලත් සුණු කපුරු ආදියද බෙහෙත් සඳුන්ආදි
199 නොයෙක් සුගන්ධයන්ද දෑසමන් සපුමල්ආදි සහපත් මන
200 රම් පුෂ්පයන්ද මේ ආදි සියලු පූජාවස්තූන් පුදා බුදුපිළිරූ
කරුආදීන්ට ඇතුන් ගෙරින් ආදිවූ සවිඤ්ඤාණක අවිඤ්ඤා
201 ණක නානාවස්තූන් ප්‍රදානයෙන් ඔවුන් සතුටු කෙළේය.

202 ධනයාගේ අසාරය දැන එකල ඒ රජහු ඒ විහාර පූජාහි
පරිත්‍යාගකළ ධනය එකසියපණසක් අධිකවූ සොළොස්දහ
203 සක්වූහ—ඒ විහාරය මහත්වූ දැකුම් කටයුතුවූද හොබනාවූද
204 මාවැලිගඟඉවුරෙහි මනරම් භූමිභාගයෙහි කළහෙයින්ම
ගඟාරාමයයි ප්‍රසිද්ධවිය රජහුවිසින් කරවණලදහෙයින් රජ
205 මහවිහාරනම්විය—මෙසේ මනාකොට කරවනලද සෞ
භාග්‍යශ්‍රීන්සංයුක්ත ඒ විහාරයත් නුවරට පැමිනි සතුරෝනැ
206 සූහ————රජතෙමේ ඒ විහාරය මොනවට පියවිකම්කර
වා පූර්වනෙත්‍රපින්කම්හි සෙයින්ම මහපෙළහර කරවා නෙත්‍ර
207 පින්කමද කරවා සිත්තර ආදීන්ට වස්ත්‍රාභරණාදි වස්තූන්
208 අනල්පකොට දිමෙන්ද ජනශ්‍රෙෂ්ඨතෙමේ නොයෙක් පූජා
209 වස්තුවෙන් පුදා ඒවෙහෙරවෙත මනරම් සඟරමකුත් කරවා
දහම්හි පිළිවෙත්හි යෙදුනු නිතිආදරඇති බික්සඟහු වස්වා
210 නොයෙක් පසයෙන් රත්නත්‍රයෙහි ආදරසහිත ඒ තෙමේ
211 උපකාරකෙරෙමින් පෙරකී ක්‍රමයෙන්ම බුදු පූද පවත්වා
දහම්හා සඞ්ඝයාත් එකවටම පුදා තමන්ටත් ලොවටත්
පින්රැස වැඩී.

212 මෙසේ කරවනලද මනා දැකුම් ඇති සිත්කළුවූ විහාරය
213 (නිමවා) එහිම පවත්වනලද අනල්පවූ සියලු පූජාවිධියද සම්
ඝදානාදිවූ බොහෝ පින්කම්ද කලක් පවත්වන්ට මිහිපල්
214 තෙමේ වෙහෙර සමීපයෙහි අරුප්පලයයි නම්වූ එක් ගමක්ද
215 අන්‍යවූත් බොහෝ ග්‍රාමක්ෂෙත්‍රයන්ද යන මෙයහා උයනුදු
නියමකොට මායාදුනුනම්රට 'මිනිසූත්සහිතදියගමය'සි නම්
216 මහගමක්ද දී එහිම සිත්කළු පව්වෙක අතුරුද කොටවා ස්ථි
217 ර කොට පැවැත්වී. මෙසේ ශ්‍රද්ධාඇත්තාවූ ගුණවත්වූ රාජාධි
රාජතෙමේ ලදසම්පත්හි අසාරය දන්නේ බුද්ධපුත්‍රවූ ප්‍රවර

සපිඝපූජාද මොනවට කරවා සැදැහැතෙත් නිරන්තරයෙන්
සියලු පින්සාරය අත්පත් කෙළේය. එහෙයින් තෙපි සිය
ලෙලෝද නිරන්තරයෙන් අනලසවූවෝ පින්කම් කරව්.

218 කුඩසාලනම්වූ යහපත් ශාඛානගරවරයෙහි සිත්කළුවූ
219 උයන්හි ප්‍රාකාරමඩපයෙන් යුක්තවූ යහපත් දැකුම් ඇති
විහාරයක් මොනවට කරවා සර්වඥධාතු (පිහිටුවනලද) පිළි
220 මද කරවා එහිම කොස් අඹ පොල් ආදී පලතුරින් හෙබි
යාවූ අළුත් උයනක්හා බොහෝ ගම් කෙත්හා ආරාමිකයන්
221 පුදා ආහාරපූජාදී සියලු පූජාවිධියද පින්කැමති රජතෙමේ
දවස්පතා පැවැත්වී.

222 සීතාවක් නුවර රාජසිංහයයි ප්‍රසිඩවූ පිතෘඝාතන කර්මයහා
223 බුඩශාසන හානියත් යම් පවිටුරජෙක්තෙමේ කටයුතු නොදැ
න කෙළේද මිථ්‍යාදෘෂ්ටිගෙණ (එම) මිථ්‍යාදෘෂ්ටීන්කෙරෙහි
224 භක්තිඇතෙත් සුමනකූටයෙහි සම්බුදුන් උතුම් පාදසටහන්හි
උපදනා ලාභය ගන්ට ඒ (මිසදිටුවන්) යෙදී, එතැන්පටන්
225 ඒ සියලල මිථ්‍යාදෘෂ්ටීහු විනාස කළෝය. මහායසස්ඇති මහ
රජතෙමේ එපවත් අසා (ඒ) අයුක්තයයි සිතන්නේ බුදුන්කෙ
226 රෙහි ගෞරවඇති ඒතෙමේ “මෙතැන්පටන් නාහමක් එසේ
227 කෙරෙත්ව” යි මිථ්‍යාදෘෂ්ටීන්ට ආඥකොට සකසා එහි කටයුතු
වූ බොහෝවූ පූජාවිධිය පවත්වන්ට බුඩපුත්‍රයන් මෙහෙයා
228 මිනිසුන් සහිතවූ ඉතා සමෘඩවූ කුට්ඨාපිටිනම් මහගමද පුද
229 වා පාසලකුණෙහි වැසිඅව් වලකන්ටත් මෘනකච්ඡත්‍රයෙන්*
හෙබියාවූ වියන් සහිත මඩුව කරවා යදමින් බැද පූජාවිධිය
230 පවත්වා බොහෝ කුසල් රැස්කෙරෙමින් එහි උපදනා ලාභ
231 යත් සස්නෙහිම යෙදීය. මෙසේ අඥනරජහුවිසින් උතුම්
බුදුන්ගුණ නොදැන යමක් කරණලදනම් අපගේ සිංහලෙන්ද්‍ර
ශ්‍රීධරප්‍රවරතෙමේ ඒ අයුක්තියයි සිතා ඒ අකාර්‍ය්‍යයා දුරලා
බුදුන්පිත් නිමල් බික්සඟහු යොදා ප්‍රවරාමෘතදෘයකවූ බුඩ
පූජාව ඒ ජනෙන්ද්‍රතෙම පැවැත්වී.

232 තවද වළගම්අබා මහීනායකරජුවිසින් කරවනලද විනා
සබවටගිය ප්‍රසිඩ මැදවෙල විහාරයහා එම විහාරයපිළිබඳ
233 සැයද මොනවට කරවා ශෘඞ්ගඝනලගමද පුදා දවස්පතා
234 එහි මොනවට පූජාද පවත්වා ආයතිගමනීයවූ ඒ සවර්ගා
235 මාර්ගයද හෙළිකෙළේයි——දෙවනගලවිහාරයසතු රන්

* ඊයම්සතින්ගෙහෝ:

236 දෙණිය නම්වූ පූර්වයෙහිම වෙන්ව ආවාවූ ගම පින්කැමිනි
237 මහායසස්ඇති නරශ්‍රෙෂ්ඨතෙමේ ගල්අකුරු සටහනින් දන
පූදා පූජා පැවැත්විය.—නරශ්‍රෙෂ්ඨතෙමේ මැද්දේපල
238 විහාරය කරවන්ට සඞ්ඝරක්ඛිතවහන්සේට මොනවට සඞ්ග්‍ර
හකොට සැතපෙන මහපිළිමආදිය කරවා නිම්කල මහ
239 පෙළහර පවත්වා එහි නෙත්‍රපින්කමද කරවා පූජාවිධානය
පවත්වන්ටත් මල්ගමුනම් ගම පුදවා දවස්පතා මොන
වට පූජා පැවැත්විය.

240 මෛත්‍රෙය මුනීන්ද්‍රයන්ගේ අග්‍රශ්‍රාවකවරය පතාආ දුටු
241 ගැමුණුරජුවිසින් කරවනලද මහත්වූ ඒ රිදීවිහාරය රජ
242 තෙමේ සිඞ්ඝනම් හෙරණුන්දෑට දී ඒ හෙරණුන්දෑ උපසම්ප
දා කරවා ලඞ්කෙන්ද්‍රතෙමේ ඒ වහන්සේටහා උපෝෂථා
243 රාමවාසී සියලු බුඞපුත්‍රයන්ටත් තනතුරුද දී නොයෙක්
244 පරිද්දෙන් සඞ්ග්‍රහ කෙළේය. කලක් ජරාවාසවූ ඒවෙහෙර
කරවන්ටත් නොයෙක් කම්කරුවන්ද බොහෝ සිත්තර ආ
දින්ද බුදුරුවෙහි ගානට යහපත් වණ්ණිඇති බොහෝ
245 රන්ද හණකම්මාදි සියල්ලද ලත්දීව් නරනාතෙමේ දීනි. ඒ
246 සියල්ල ලැබුවාවූ ඒසිඞ්ඝනම් යතිනාතෙමේද ජරාජීර්ණ දී
සියල්ල සකසේ බැහැර කොට සෙල්මුවා ගනතුගුබිතුහා
247 ගෙබ්මත් බැහැරමඩුවත් හොබනාකොට කරවා උඩගලෙ
හිත් මාරයුඞ සහිතවූ බුදුපිළිරූහා නොයෙක් මල්වැල් ආ
248 දියද මොනවට (සිත්තම්) කරවා යහපත්වූ උළින් සුණින්
249 මැටියෙන් සැතපෙන මහපිළිරුවක්හා එසේම උන් සිටිබො
හෝ පිළිරූත් කරවා ඇතුල් බිත හොබනා දහසක් පමණ
250 බුදුපිළිරූ විසිතුරුසිත්තමින් මනාකොට කරවා සැතපෙන
251 මහපිළිමයෙහි පාමුල යථාක්‍රමයෙන් බුඞොපස්ථායක ධර්ම
252 භාණ්ඩාගාරික අනඳතෙරුන්ගේද මෙතේබෝසතුන්ගේද
නාථදෙවවරයාගේද ගැමුණුරජුගේද හොබනා රූ කරවා
253 පස්මහබුදුරූ රණින් ආලෙපද කොට නොයෙක් පරිද්දෙන්
254 ඇතුළ කටයුතුකම් කරවා බැහැර බිතද පූජාපිණිස ආවුන්
වැනි මල්ගත් අත්ඇති භාස්වරවූ දෙව්බඹ රූපෙළද ද
255 කුම් කටයුතු සිත්කළු මහත් තොරණක්ද දෙරදෙපස සිංහ
256 රූ දෙකක්ද සෙසු බිත් ඇතුළත් අමනුෂ්‍ය රූපයන්ද කරවා
මියුගුනුසෑආදී උතුම් සොළොස්තැනද සච්චබඞපර්වතයෙහි
257 විසිතුරු පදසලකුණද දශප්‍රකාර පාරමිතා ත්‍රිවිධචරියා පව
258 මහාපරිත්‍යාගාදී ධර්මප්‍රකාශිත බොහෝ ජාතකයන්ද, විසිතු
259 රු සිත්තමින් සිංහපෙළය, ඇත්පෙළය, හංසපෙළය, මණ්ඩ
260 පය, එසේම නොයෙක් ආකාරඇති මල්වැල්ය, (යනමේ)

කරවා පසුව එම ගලඋඩ සිත්කළු ලෙන්හි දැකුම් කටයුතු
261 යහපත් ප්‍රවර මහපිළිමගෙයක්ද කරවා සකස්කොට බො
262 හෝ ගල්කම්ආදිය (කරවා) එහි හොබනා දිවමන්නු බුදුන්
වැනි මහත්වූ දර්‍ශනීයවූ එමපිළිරුවහා දළයෙහි මනාදැකුම්
263 ඇති උස්සිටිපිළිම දෙකක්ද මෛත්‍රී බෝසතුන්ගේත් උපුල්
වන්දෙව්රජුගේත් පිළිරූද එහි කරවා අන්‍යවූ බොහෝද්‍ත්
264 බුදුපිළිරූහා නොයෙක් රහත් රූද එසේම සූවිසි බුදුන්ද
265 එතෙක් බෝධිද සියලු සූවිසි විවරණයද සොළොස් මහ
තැන්ද භූතරූපයන්ද යහපත්වූ පඤ්චප්‍රකාර සභිතිද දැ
266 කුම්කටයුතු අන්‍යවූත් විසිතුරු සිත්‍රාම් නොයෙක් පරිච්
267 දෙන් කරවා එහිම බුඩධාතූන් වඩා සැයකුදු කරවා රන්
කොතින් අලඞ්කාරකෙළේය.

268 ඒ උතුම් මතුලෙනෙහි පිළිමගෙයක්ද සැරියුත් මහතෙ
රනුවන් ආදී පන්සියයක් පිරිවරසහිත වැඩඋන් පිළිම
269 යක්ද දැකුම්කටයුතුව කරවා ඒ ඒ මිදුල්හි පව්රූහා මඬුද
270 එසේම නොයෙක් දොරකොටුද හිණිපෙතිද ඒ ඒ තන්හි
අතිකුදු යහපත් කර්‍මාන්තද බොහෝවූ ජරාවාසයට ගියද
271 පිළියම්කිරීමහා අලුත් බොහෝද්ද මනොහර සියලු කර්‍මා
න්තයන්ද කරවා එහි නෙත්‍රතබන පෙළහරෙහි රජගු ව
272 ස්ත්‍රාභරණාදිවූ බොහෝද දී ඇමැතතන් එඩිකල නන්
නොරන්පෙත් අතුරුනැතිකොට සරසවා එහි කටයුතු බො
273 හෝවූ අලඞ්කාරද කරවා උතුම් මඟුලවිධියද කරවා සකස්
කොට මහපෙළහරද පවත්වා යහපත් නකත් මුහුර්තයෙහි
274 එහි නෙත්‍රපින්කම කොට එතැන්පටන් මුළුරටවැසි බො
275 හෝ ජනයා ගොඩ ගමන්ගත් සමුදුරසේ ඒ ඒ දිගින් අවු
276 දින් රැස්වූහ· සියලු ජනයෝ එහි කරණලද්දවූ බො
හෝවූ රන්කම් ආදී නොයෙක් දෑ දැක ඉතා පහන්සිත් ඇත්
277 තාහු යමකප්‍රාතිහාර්‍යයෙහි බුදුන් දුටුවාසේ පහන් ඔදවැඩි
සිත් ඇත්තෝම සාධුනාද පෙරදැරිකොට මහපුදපවත්වමින්
ස්වර්‍ගගාමාර්‍ගය පිරිසිදු කළෝ.

278 ඒ වෙහෙරපෙළහරෙහි භික්‍ෂුසඞ්ඝයා නිමන්ත්‍රණයකොට
279 ඇතුල් විහාරගෙහි අසුන් පණවා සබ්බකාජික භික්‍ෂූන්
වඩාහිඳුවා උන්වහන්සේලා ලවා මඞ්ගලසූත්‍රාදි ශ්‍රවණීය
280 උතුම් දහම් දෙස්වා සකසා දහම් පුද පැවැත්විය. දුටු ඇසූ
සියලු ජනයෝ බුදුන් දක්මද ධර්‍මශ්‍රවණයද ඒකප්‍රකාර
281 යෙන් ලැබ එකල්හි ජීවමාන බුදුන්ගේ දහම් දෙසුම්හි
282 සෙයින් නොයෙක් පරිද්දෙන් මහත් ප්‍රීතිප්‍රමෝද්‍ය ඇත්තෝ
වූහ. දවස්පතා මෙබඳු විලාසයද දෙසනා ලීලාවද දැක්වි.

283 බැහැර මළුවෙහිත් මනහර ගල්වැම් හිඳුවා මඬුවක් තනවා
284 අසුන් පණවා මඬුව හාත්පස මහජනයා රැස්වූකල පන්
සිල්ආදී සිල්හි ඒ සියල්ලන් පිහිටුවා දවස්පතා බොහෝවූ
285 දහම් අසා ධම්මකථිකයන් නිමන්ත්‍රණය කොට නොයෙක්
286 වර තුන්යම්රැ දහම්ද සාදරයෙන් කියවී. බුදුන් පිරිනිවි
287 තැන්පටන් දෙදහස් තුන්සිය එක්වන හවුරුදුයෙහි රිදිවි
හාරය කරවා ඒ මහපෙළහර කෙළේය.

288 ඒ වෙහෙරින් දකුණුදිග හොබනා සිත්කළු විසල්වූ ගල
289 තළ මතුයෙහි කරණලද ඒ උතුම් සැයක් නටුයේ පස්ගො
ඩක් සෙයින් (තුබූයේ) ප්‍රකාශයට ආයේය. (එය) කරවන්ට
290 සිතා සුණුගඩොල් ගල් ආදිය ඒ ඒ අතින් රැස්කොට සිත්
කළු සතරැස් අස්න මනාකොට බඳවා එහි ශ්‍රීමත්
291 සම්බුදුන්ගේ ධාතුතබා දාගැබත් කරවමින් ඒ වෙත ඉතා
292 හොබනා භූමිභාගයෙක්හි සඞ්ඝයා පවරා යහපත් කොට
බඩසීමාවක්දු කරවා පොහෝගෙවල ආදියද උළුසෙවෙනි
293 ඇති සඞ්ඝාවාසයක්දු කරවමින් හාත්පස භූමිභාගයෙ
හිත් නන්මල්තුරින්හා නොයෙක් මල්වැලින්ද අනෙක
294 ඵලවෘක්ෂාදියෙන්ද සමලඞ්කෘතවූ බොහෝ පොකුණින් යුත්
මහ උයනක්දු කරවමින් එහි පෙසල බුඩපුත්‍රයන් වස්වා
295 උන්වහන්සේලා දහම්හිද පිළිවෙත්හිද මහත් ආදරයෙන්
296 යෙදූයේයි. මෙසේ රාජබලයෙන්ම කරවනලද මහරහ
තුන්විසින් සෙව්නාලද ඒ ස්ථානය පූර්වලඞ්කාධිපයන් විසින්
297 පිදූ පවත් අසා මහායසස්ඇති රජතෙමේ එසේම විහාරසීමා
වද නියම කොට පුදා එහි සියලු පූජාවිධියද බොහෝවූ
සඞ්ඝදානාදියද වැඩිකොට පවත්වමින් පින්රුස රැස්කෙ
ළේයි.

298 පුවක් දෙබ නාආදි තුරු පෙළින් ගෙබියාවූ කෙළවරක්
නැති සියලු ලිහිණියන්විසින් රැව්පිළිරැවින් හඬනලද සිහි
299 ල් නිමල් සුදු අතළගලින් යුක්තවූ නොයෙක් මුවගණවිසින්
300 ගහණවූ දෙළුගල්පව්වෙත වරාවළනම්වූ ඉතා සිත්කළු අ
රම්හි රජු අනුදනනාලද ඇමතියෙකුවිසින් බුදුපිළිම ගෙය
301 ක් කරණ ලදේය— සවර්ණ ග්‍රාමමන්ත්‍රීන්විසින් ගල්
වැම් හිඳුවා පොහෝ ගෙයක් කොට සඞ්ඝයාවිසයෙහි පූදන
302 ලදී. ඒතෙමේම වැම්ආදි දුරුසම්භාර එක්කොට එකල්හිම
303 ඒ වෙහෙර බොහෝ ගෙවලුදු කරවී— රජතෙමේ එහි විසූ
භික්ෂූන්ගේ සැමදෑ පසපිණ්ඩ නොයෙක් ගම් කෙත් ආදිය
304 පිදිය. එකල්හි නරශ්‍රේෂ්ඨතෙමේ මේ සියල්ල කරවා පහන්
සිත්ඇතෙන් ධම්මරක්ඛිත මහතෙරුන්ට පැමිනවී—මෙ

305 සේ රජතෙමේ නන්වැදෑරුම් පින්රැස්කොට පන්තිස්වැනි
හවුරුදුයෙහි මෙලොවින් කම්වූ පරිද්දෙන් ගියේයි.

306 භොගයෙහිද දෙහයෙහිද අසාරබැව් සලකා නුවනැත්
තෝ ආසාව ඉතා දුරුකොට හරිති; තෙපිදු තුණුරුවන්ම
සේවා කොට ලොකොත්තරාදී (සැපදෙන) කුසලයම භජ
නාය කරව්.

මෙතෙකින් භූදිජනයා ප්‍රසාදසංවෙගපිණිස කළ මහවස
කීර්ත්තිශ්‍රීරාජසිංහදිපනනම්වූ සියවෙනි අදියර නිමි.

---

# 101 වෙනි පරිච්ඡෙදය.

---

1 ඒරජුඇවෑමෙන් උභූබාලසහෝදරවූ ශ්‍රීරාජාධිරාජසිංහතෙ
2 මේ ලක්දිව රාජාභිෂෙකයට පැමිනියේය. තුණුරුවන්හි
පහන්වූයේ අප්‍රමාදවූ විචක්‍ෂණවූ සද්ධර්මශ්‍රවණයෙහි යු
3 ක්තවූ පැමිනි රාජාභිෂෙක ඇතෙත්ම නරශ්‍රෙෂ්ඨතෙ
මේ බෑයාවිසින් කරවනලද යම් ලෙව්සසුන් ආරක්‍ෂා
4 වෙක් වීනම් ඒ සියල්ල නොනසා පෙරසේම කරව්. ම
හායසස්ඇත්තේ දළදාවරයටත් පූදනනාවූ ආහාරපානා
5 දිය නොපිරිහෙලා පෙරසේම පිදිය. පූර්වයෙහි බුඩපුත්‍ර
යන්ට තැබූ දන්වැට (පෙර) රජුවිසින් දුන්ක්‍රමයෙන් එසේම
6 දෙන්ට නියෝග කෙළේය. දෙටුබෑ රජු දවස සියම් රටින්
වැඩි උපාලිතෙරුන් ප්‍රධානකොට ඇති භික්‍ෂූහු ශ්‍රීවර්ධන
7 පූරයට පැමිනියාහුය. පසුව උපාලිආචාර්‍ය්‍යාදී ඒ භික්‍ෂූහු නුව
8 රින් දකුණුදිග පුෂ්පාරාමනම්වූ ඒ විහාරයෙහි ඤත්තිදුතිය
කර්ම්මයෙන් සීමා බැන්දාහුය. එකල්හි කීර්ත්තිශ්‍රීනම් රජහු
9 විසින් කරවනලද දිරාගිය ඒ පොහෝගෙය ඒ තෙමේ
10 බලා සීමාන්තයෙහි පටන් හාත්පසින් උස්කොට බොහෝ
ගල් සෙදීමෙන් ඇතුල් සීමායෙහි බිතු ඔසවා ඉදිකොට
11 පින්කැමති නරපල්තෙමේ කරවී, ඒ රජතෙමේ ගල්ටැම්
හිඳුවා පොහෝගෙය කොට චාතුද්දිශික භික්‍ෂුසඞ්ඝයාට
12 පිළිගැන්වී. මාගධීසංස්කෘත ආදිවූ නොයෙක් ශාස්ත්‍රයන්හි

දක්‍ෂවූයේ නිත්‍යදානයෙහි ඇළුනේ රුචින් මලවියාබඳුවූ
13 ඒ තෙමේම ශබ්දශාස්ත්‍රයෙහි විශාරදවූයේ අසදෘශජාතකය
සිංහල නිරුක්තියෙන් කවිකොට ලියවී—පිරිසිදු සිත්
14 ඇත්තේ එකරැයක පහන් ලක්‍ෂයකින් එලියකොටලා ශ්‍රද්ධා
යෙන් දළදාව වැඳුයේය. සියලු දන් අතුරෙන් කඨිනදානයා
15 ගේ මහඅනුසස් අසා ඒතෙමේ අවුරුදුපතා සඞ්ඝයාවිසයෙහි
16 කඨිනයන් දන් දුන්නේයි. ඒ රජහුගේ දෙහප්‍රමාණකොට
17 බුදුපිළිරුවක් බුදුබව පතන්නේ ලොහොයෙන් කරවිය.
මැනවැයි සම්මතවූ ගඟාරාමවිහාරයෙහි මනහර දැකුම්
18 කටයුතුවූ දාගැබක් කරවී, ඒ මිහිපල්තෙමේ අටළොස්වර්‍ෂ
යෙක්හි මේ ආදි පින්රැස්කොට කම්වූ පරිද්දෙන් මෙලො
වින් ගියේයි.
19 (අනන්තරව) රාජාධිරාජසිංහරජහුගේ බෑනවූ ජනනායක
තෙමේ ශ්‍රීවික්‍රමරාජසිංහ යන නමින් ධෛර්‍ය්‍යඇතිව රජවූ
20 යේ බුදුන්විසින් වදාළ ධර්‍මය අසා සතුටුවිය. මිහිපල්තෙ
21 මේ දළදාවහන්සේට මිණිමුතුආදියද එසේම නොයෙක්
ගම් කෙත්ද පිදූයේය. බුදුන්ප්‍රධාන සඞ්ඝයාට ප්‍රණීත ආ
22 හාරද බොහෝවර දන්දී අනන්තසම්පත් පැතුයේය. ඒ
23 මිහිපල්තෙමේ මේආදිවූ බොහෝකුසල් රැස්කෙළේය—
පසුව අසත්පුරුෂ සමාගමයට පැමින විපර්‍ය්‍යාසයට පැමිනි
24 යේය. මන්ත්‍රීශ්වරමහාමාත්‍යයන්ද එසින් අනික් බොහෝ
ඇමතියන්ද හේතෙමේ ගෙන්වාගෙණ රකුසෙකුසේ කරු
25 ණා රහිතවූයේ ඒජනයන් නැසූයේයි. එකල්හි නොයෙක්
සියගණන් මිනිසුන් ගෙන්වා මරහුසේ දයානැත්තේ ඒඒ
26 තැන උලහිඳවී. ඒ මිනිසුන්ගේ පරම්පරාගත බොහෝ
සම්පත්ද ඒ රජතෙමේ ගම්පහරණ සොරෙකුසෙයින්
27 කොල්ලකෑවී. මිහිපල්හු මෙසේ නොයෙක් අදහම්හි හැසි
රෙණකල දැඩියේ කිපියාවූ උඩරට වැසෝද කොලොම්පුර
28 වැසෝද ඒ සියල්ලෝ මෙහි අවුත් දුෂ්ටස්වභාවඇති ඒ රජහු
උහුගේ අභිෂෙකයෙන් අටළොස් වසපැමිනිකල්හි ජීවග්‍රා
29 හයෙන්ගෙණ මුහුදින් එතෙර ලූහ. ලොව පෙළූ රජහු
පරතෙර යවා ඉංග්‍රිසිනම්ඇත්තෝ සියලුරාජ්‍යය හස්තගත
කළෝය.

සිද්ධිරස්තු.

---

# GLOSSARY.

# ග්‍රන්ථිපදවිවරණය.

---

## අ.

අගසව්යුවල *c. n. m.* අග්‍රශ්‍රාවකදෙනම, බුදුන්ගේ ප්‍රධාන ශිෂ්‍ය දෙනම. P. අග්ගසාවක යුග, Sk. අග්‍රශ්‍රාවකයුග. The two chief disciples of Buddha, අග chief, සව් disciple, යුවල pair or two.

අගුල් *m.* ඉරුණු වස්ත්‍රයකට ගළපන කෑබැල්ල. (දොරේ අගුල) P. අග්ගල, Sk. (අර්ගල) a patch (bolt.)

අටපිරිකර *c. n. m.* මහණුන්නාන්සේ කෙනෙකුට ඕනෑකරණ පරිෂ්කාර අට, එනම් පාත්‍රය, සිව්රුතුණ, පටිය, පිහියේ, ඉදිකටුව, පෙරහන්කඩ යනමේයි. P. අට්ඨපරික්ඛාර, Sk. අෂ්ට පරිෂ්කාර. The eight articles constituting the personal property of a Buddhist priest, viz., a bowl, three robes, a belt or girdle, a knife, a needle, and a water-strainer. අට eight පිරිකර article.

අඩාල *par. a.* කොටසක් කොට නැවත්තූ, නිමනොකළාවූ, P. විප්පකත, Sk. විප්‍රකෘත. Half-done, incomplete.

අතික්‍රාන්ත Sk. *Par. a.* ඉක්මගියාවූ, පසුවූ, P. අතික්කන්ත, අතීත, Passed, beyond.

අතිරේක P. Sk. *a.* වැඩි, ඉතිරි. More, remainder.

අත්‍යන්ත Sk. *nt.* අතිසය, P. අච්චන්ත. More, excess.

අදියර *m.* පරිච්ඡේදය, P. Sk. අධිකාර, පරිච්ඡේද. Chapter, section.

අදෝම, අදෝ *Int.* අහෝ, ඛේදයකි, P. Sk. හන්ත, හා. Oh! alas!

අධිකරණ P. Sk. *nt.* කාරණය, නඩුව. Affair, a suit in court, a matter for adjudication.

අධිෂ්ඨාන Sk. *nt.* නියමකරගැන්ම, ස්ථිරලෙස සිතාගැන්ම, P. අධිට්ඨාන. Resolution, see ඉටන්.

අධිෂ්ඨිත Sk. *Par. a.* උසස්ව සිටි, එළඹසිටි, පැමිනි, අධිපතිවැ සිටි. P. අධිට්ඨිත. (He who) presided, approached, අධි over, and ස්ථා to stand.

අනන්ත P. Sk. *m.* අනන්තනම් නාගරාජයා. The king of snakes called Ananta *a.* අන්තයක් නැති, කොණක් නැති. Endless, infinite, අන් not අන්ත end.

අනිත්‍ය *a.* නිත්‍යනොවූ, සදාකාලිකනොවූ, P. අනිච්ච Sk. අනිත්‍ය. Transient, evanescent, non-eternal; අ not, නිත්‍ය eternal.

නාථ P. Sk, *a.* ස්වාමිරහිත, අසරණවූ. Without a protector, helpless, without a master; අ not, නාථ master.

අනාපත්ති P. *c. n. f.* වරදට නොපැමිනිම, Sk. අනාප්‍රාප්ති, Not falling into or abstaining from sin or offence, අන් for, න not, ආපත්ති falling.

අනුසස්නා *par. a.* අවවාදකරණ, P. අනුසාසන්ත, Sk. අනුසාශත්. Advising, admonishing, counselling.

අන්තරාය විශොධන Sk. *c. n m.* උපද්‍රව වැලක්වීම, අනතුරු නැතිකිරීම, P. අන්තරාය විසොධන. Prevention of dangers, අන්තරාය danger, විශොධන prevention.

අන්තොසීමා P. *c. n. f.* සීමාවැතුළ, Sk. අන්තශ්සීම. Within the boundary, within precincts; අන්තො inside, සීමා limit.

අන්ධසෙනාපති P. *c. n. m.* ආන්ද්‍රසෙනාවට අධිපතියා, වඩිගසේනාවේ අධිපතියා, A general in an Āndra army.

අපථ්‍යකාරින් Sk. *a.* අහිතක්‍රියාකරන්නාවූ, P. අහිතකාරී. Doing what is improper or unlawful, lawless.

අපාශ්‍රය Sk, *a.* සේත්තුවීමට යෝග්‍ය, P. අපස්සය. Fit to lean against.

අපෙක්ෂා Sk. *f.* බලාපොරොත්තුව, සෙවීම, P. අපෙක්ඛා. Hope, consideration.

අබිදන් *m.* නාමය, P. Sk අභිධාන. Name, address.

අභිභවන P. Sk. *nt.* මැඩපැවැත්වීම, යටහත්කිරීම, නින්දාකිරීම. Subjugation, overcoming.

අභිඥ Sk. *f.* විශෙෂයෙන් දන්නා නුවන, ශ්‍රෙෂ්ඨ නුවන, (අභිඥලාභියෙකුට) 1 ඉද්ධිවිධ 2 දිබ්බසොත 3 පරචිත්ත විජානන 4 පුබ්බෙනිවාසානුස්සති 5 දිබ්බචක්ඛුයයි අභිඥප සයි. රහත්කෙනෙකුට ආසවක්ඛයඥාණයත් සමග අභිඥ සයකි. High knowledge, supernatural knowledge or faculty. There are five abhijñas possessed by an Ascetic, viz., different magical powers, the divine hearing,* the knowledge of the thoughts of others, the knowledge of conditions of former existences, and the divine sight.† In addition to the above five Abhijñas an Arhat possesses Asavakkhaya ñána, or the knowledge which enables to destroy sins.

අභිෂෙක Sk. *prop. n. m.* පිළිමවහන්සේකෙනෙකුට නමක්, *c. n. m.* පැන්හිස වැගිරවීම, රාජ්‍යයට පත්කිරීමපිණිස අභිෂෙක නමින් පැන්හිසවැගිරවීම, අභිසෙව් P. අභිසෙක. Name of an ancient image, anointing the head with water to create king.

අභ්‍යන්තර Sk. *n. a.* ඇතුල, P. අබ්භන්තර (එකම්මිමක්) ඇතුළත්වූ. Internal, inside, (a certain measure,) inner, enclosed, අභි—අන්තර.

අමූල්‍ය Sk. *a.* මිලකළ නොහැකි, P. අමූලිය. Invaluable, inestimable, අ not මූල්‍ය valuable.

අය ගම් *c. n. m.* ප්‍රයෝජන උපදින ගම්, P. භොගගාම, Sk. භොග ග්‍රාම. Villages from which income is derived අය tax ගම් village.

අයොමය P. Sk *a.* යකඩින් කරණලද, යකඩින් නිමවනලද. Made of iron.

අරක් *f.* රැකවරණ, P. ආරක්ඛා, Sk. ආරක්ෂා. Protection, *acc. plu.* අරකුන්.

අරමණ *prop. n.* රටක නමක්, රාමඤ්ඤරට, P. රාමඤ්ඤ, Sk. රාමණ්‍ය. Name of a country called Ramañña (Rangun.)

අරී—මග *c. n. m.* උත්තම මාර්ගය, P. අරියමග්ග, Sk. ආර්‍ය්‍ය මාර්ග. Venerable path, religious path.

---

* Literally, Divine ear. † Literally, Divine eye.

අවනත P. Sk. *par. a.* නැමුනු, නමස්කාරකළාවූ. Bent, bowed down.

අවස *m.* ආවාසය, විහාරය, P. Sk. ආවාස. House, Vihara, Buddhist temple.

අවි *m.* කඩුආදී ආයුධ, P. Sk. ආයුධ. Weapon, such as a sword.

අවුර *tr. imp. 2nd per. sing.* වසව, ආවරණයකරව, P. ආවර, Sk. ආවෘණෝහි. Cover, screen; from අවුරමි.

අවුරා *p. par.* වසා, සිරකොට, P. අවරුජ්ඣිය, අවරුන්ධිය. Sk. අවරුද්ධ. Having covered, having closed.

අශෙෂ Sk. *a.* සියලු, අවශෙෂයක්නැති, P. අසෙස. All, all-pervading without remainder.

අශ්වනාවිකපුත්‍ර Sk. *c. n. m.* අශ්වයන් වෙළඳාමට ගෙණයන නැවේ නැවියාගේ පුතා, P. අස්සනාවිකපුත්ත. Son of a dealer in horses, who is also the master of the vessel in which the horses are conveyed, අශ්ව horse, නාවික pilot, පුත්‍ර son.

අස්වසා *pas. par.* සනසා, සන්සිඳුවා, බියනැතිකොට, P. අස්සාසෙත්වා, Sk. ආශ්වාස්‍ය. Having comforted, having soothed, having appeased, having (therefore) encouraged.

අසිග්‍රාහක *c. n. m.* කඩුගන්නා, කඩුදරණ නිලමේ, Sk. අසිග්‍රාහක, Sword-bearer, අසි sword ග්‍රාහක bearer.

අසුන් *m.* හස්න, ආසනය, P. සාසන, ආසන, Sk. ශාසන, A message, a letter, a seat; also the *acc. plu.* of අස් a horse.

අංසුවල *c. n. m.* අංදෙක, P. සිංගයුග, Sk. ශෘඞ්ගයුග. Pair of horns, අඟ horn, යුවල pair.

## ආ.

ආක්‍රොශ Sk. *m.* හැවිම, සාපය, P. අක්කොස. Curse, accusation, abuse.

ආකීර්ණ Sk. *par. a,* ගැවසුනු, P. ආකිණ්ණ, Scattered over, strewed.

ආචාර්‍ය්‍යවාද Sk. *c. n. m* ආචාර්‍ය්‍යවරයන්ගේ කථා හෝ ඉගැන්නුම්, P. ආචරියවාද. Doctrines of teachers or professors.

ආපත්ති P. *f.* දෝෂයකට පැමිනීම, Sk. ආප්‍රාපති. Falling into a crime, sin or an offence.

ආයතන-පදවි *c. n m.* විහාරස්ථානවල ප්‍රධාන තනතුරැ, P. S. ආයතනපද. Incumbency of or superiority over a monastery.

ආයාචනා P. Sk. *f.* යාච්ඤාව, අයදුම. Asking, begging, prayer, request.

ආරාමික P. Sk. *m.* ආරාමයෙහි නියුක්තයා, ආරාමයෙහි කට යුතුකාරයා. One who manages the affairs of an Ārāma or a monastic establishment.

ආවසථ P. Sk. *n. m.* නවාතැන්ගේ, අම්බලම. A rest-house, a lodging room.

ආවාස P. Sk. *m.* අවස, වාසස්ථාන. A dwelling, see අවස.

ආස්තරණ Sk. *m. nt.* ඇතිරිලි, P. අත්ථරණ. Sheets put on beds.

ආසෙවිත P. Sk. *p. par. a.* නිතර සෙවනය කරණලද. Served constantly, associated frequently.

ආහාර-ක්ෂය Sk. *c. n. m.* ආහාර අඩුවීම, ආහාර අඩුකිරීම. Diminution or want of food.

## ඇ.

ඇණවී *tr. p. third per. sing.* ආඥකෙළේයි, නියොගකෙළේයි, P. ආණපෙසි, ආණපයී, Sk. ආඥපයත්. Commanded, ordered.

ඇණවූ *p. par. a.* අණකළ, ආඥකරණලද, P. ආණත්ත, Sk. ආඥප්ත. Commanded, ordered.

ඇත්කුඹු *c. n. m.* ඇතාගේ හිසමත්තේ ගුලිය, P. හත්ථිකුම්භ, Sk. හස්තිකුම්භ. The frontal globe of an elephant.

ඇත්මුළු *c. n. m.* හස්තිසමූහයා, P. හත්ථියූථ, Sk. හස්තියූථ. Herd of elephants, ඇත් elephant මුළු herd. *acc. sing.* ඇත්මුළ.

ඇතොවුර *m.* රජහුගේ අනතඃපුරවැසි ස්ත්‍රීජනයා, P. ඔරොධ, අනෙතාපුර, අනෙතපුර, අනෙතාපුරිකා, Sk. අනතඃපුර. The harem.

ඇවෑම *m.* ඉක්මයාම, මරණින්පසු, P. අච්චය, Sk. අත්‍යය, passing away, after death.

ඇවිරි *tr. p. third per. sing.* ආවරණය කෙළේය, වැසී, P. ආවරි, වාරෙසි Sk. අවාරීත්. Covered.

## ඈ.

ඈපා *c. n. m.* ආදිපාද පදවිය, ආදිපාදයා, රජහට දෙවැනිව රජ වීමට යොග්‍යව වසන කුමාරයා. Dukedom, heir-apparent, ඈ first, පා post.

## ඉ.

ඉක්බිති *adv. or an inc. par.* නැවත, ඊට අනතුරුව, ඒලඟට P. Sk. අථ. After, afterwards, then.

ඉටන් *m.* අධිෂ්ඨානය, මෙසේ වේවයි නියමකිරීම, මෙසේ කෙරෙම්සි නියමකර ගැන්ම, P. අධිට්ඨාන. Resolution, determination.

ඉදුහ *f.* සෘද්ධිය, පුදුමක්‍රියා කරන්ට පුළුවන් බව, සමර්ථතාව, P. ඉද්ධි, Sk. සෘද්ධි· Having the power of performing miracles, superhuman power, power.

## ඊ.

ඊ—බද *a.* එහි බැඳුනු, ඊට සම්බන්ධ, P. තබ්බද්ධ, Sk. තද්බද්ධ. Joined with, attached to, connected with.

## උ.

උක්කුටසී *f.* උසස්කොට කෑගැසීම, Sk. උත්ක්‍රොශ. A loud crying.

උණු—ලොම් *c. n. m.* ඌර්ණරෝමය, බුදුන්ගේ නලළේ තිබුනු රෝමය. Hair on the forehead of Buddha between the brows.

උතුඞ්ග P. Sk. *a.* උස්වූ, උස්. High, lofty.

උත්සන්න Sk. *a.* උසස්, බලවත්, බහුල, P. උස්සන්න. High, powerful.

උත්සන්න—භාව Sk. *c. n. m.* උසස්බව, වැඩිබව, බහුලබව, P. උස්සන්නතා. Superiority, abundance, a large quantity.

උදාර Sk. *a.* මහත්වූ, සෘජුවූ, උසස්වූ, ත්‍යාගී, P. උළාර. Great, upright, honest, high, liberal.

උද්ඝොෂණ Sk. *f. nt.* උසස්කොට ශබ්ද කිරීම, හඬගෑසීම, P. උග්ඝොසන. Making a loud noise.

උන්නාද P. Sk. *m.* උසස්කොට හඬගෑසීම. A loud cry.

උපගත P. Sk. *par. a.* ලඟට පැමිනි, එළැඹි. (He who has) come near, arrived at, approached.

උපද්‍රැත Sk. *par. a.* උපද්‍රව ඇතිවූ, P. උපද්දුත. Dangerous, portentous.

උපපද-නාම P. *c. n. nt.* නාමයට පූර්වයෙන් එකතුවෙන නාමය. Sk. උපපදනාමන්. An epithet added or prefixed to a name, a surname.

උපභොග P. Sk. *a. n.* ප්‍රයොජන ගතයුතුවූ, ප්‍රයොජනවිය යුතු වස්තුව. Proper to be enjoyed, fit to be used, enjoyment.

උපලාලන P. Sk. *nt.* නැලවීම, සාමය, සතුටුකිරීම. Lulling, act of pleasing.

උපසුම්භ *pro. n.* පිළිමයක නම. Name of an ancient image.

උපහාර P. Sk. *m.* පූජාව, පුදපෙළහර, උත්සවය. Offering, festivity.

උපෂ්ටම්භ Sk. *n. a.* උපකාරක, බලදෙනනාවූ, P. උපත්ථම්භ, උපත්ථම්භක. Assisting, affording power.

උපෂ්ටම්භක—භාව Sk. *c. n. m.* උපකාර කරණබව, පිටුවහල් බව, P. උපත්ථම්භකභාව. Assistance, rare help, උපෂ්ටම්භක assistant, භාව nature.

උපෙක්ෂා Sk. *f.* සතුටු නොසතුටු දෙක අතර පැවැත්ම, P. උපෙක්ඛා. Indifference, mediocrity.

උපෙත P. Sk. *p. par.* යුක්ත, සමග පවත්නා. Connected, joined.

උල්ලඞ්ඝන P. Sk. *nt.* උඩින් පැනීම, හැරදැමීම, වැරැද්දීම. Leaping over, leaving, mistake.

උලෙල *a.* උසස්ව කම්පිතවන, P. Sk. *a.* උල්ලොල. Highly shaking.

උවටන් *m.* උපස්ථාන, ලඟහැසිරීම. P. උපට්ඨාන, Sk. උපස්ථාන. Attention, hospitality.

උවරණ &c. උවාරණ *m.* උපකරණ, ඕනෑකරණදේ, මෙවලම්, P. Sk. උපකරණ. Necessary instruments used in any work.

## ඌ.

ඌර්ණ-රෝම Sk. *c. n. nt.* බුදුන්ගේ නලළේ හටගත් ලොමය, මකුළුහුයක් සමාන ලොමය, P. උණ්ණලොම. A hair as thin as the thread of a spider, a hair on the forehead of Buddha, see උණුලොම්.

## එ.

එකඩවස් *c. n. m.* එක්හවුරුදු හමාසයක්, P. දියඩ්ඪවස්ස, Sk. අධ්‍යර්ධවර්ෂ. One year and half, එක් one, අඩ half, වස් year.

එකපදික—මාර්ග Sk. *c. n. m.* එක මිනිසෙකුවිසින්ම පයින් යායුතු මාර්ගය, තිප දෙනෙක් විසින් හරස්ව පෙළගැසී යන්ට නුපුළුවන් මාර්ගය. A road through which one man only can pass, a narrow foot-path.

එකායන—මාර්ග Sk. *m.* එකම මාර්ගයවූ මාර්ගය, එකම ගමනවූ මාර්ගය, සතිපට්ඨාන. The only path to Magga or salvation, as taught in Buddhism.

එකාවැල් *c. n. f.* එකාවලිය, කරලන මාලයක්, P. Sk. එකාවලී. A necklace of pearls, එක one වැල් necklace.

එක්කඳහොරු *c. n. f.* එක කඳෙන් සාදනලද ඔරු, P. එකදොණිනාවා, Sk. එක ද්‍රොණිනෞ. A boat made of a single trunk, එක් one කඳ timber or oval basin, ඔරු boat.

එලවූහ *tr. p. third per. plu.* පිළිගැන්වූහ, දුන්හ, ගෙණැත් දුන්හ, P. උපනාමෙසුං, ආහරුං, Sk. උපාහෘත. They brought, they gave.

එළු දළ දාවස *c. n. m.* සිංහල දංෂ්ට්‍රාධාතු වංශය, P. සීහලදාඨා ධාතු වංස. History of the tooth relic of Buddha written in Sinhalese.

## ඓ.

ඓශ්වර්‍ය්‍යසෞභාග්‍යලක්ෂ්මී Sk. *c. n. f.* ඉසුරුමත්බවහා යහපත් හේතුවේ ශ්‍රීදේවී, P. ඉස්සරියසොභග්ගලක්ඛී. The goddess of prosperity and good fortune ඓශ්වර්‍ය්‍ය power, prosperity, සෞභාග්‍ය good fortune, ලක්ෂ්මී goddess of beauty.

## ඔ.

ඔකාවස් *c. n.* ඔක්කාකවංසය, P. ඔක්කාකකුල, ඔක්කාකවංස, Sk. ඉක්ෂ්වාකුවංශ. A race named Okkáka, ඔකා a name වස්, race.

ඔත්තප්ප P. *nt.* පවටබිය, Sk. උත්තාප, Fear to commit sin.

ඔර *m.* ලය, උරය, P. උර, Sk. උරස්. The breast, the bosom, the heart.

ඔරවැඩූ *a.* ලයෙහි හිඳුවා වඩනයකළ, ලැපැත්තේ හිඳුවාවැඩූ (පුත්‍රයෙක්,) P. ඔරස, උරසිවඩ්ඪිත, Sk. ඖරස. legitimate.

## ක.

කටන්ධකාර *pro. n.* විහාරයක නමක්, Name of a temple or Vihára.

කඩරෙද *pro. n.* ස්ථානයක නමක්, අනුරාධපුරයේ නැගෙනහිරදිසාවේ දනව්වක්. P. Khandaráji, a village or district to the east of Anurádhapura.

කනිටු *a. n.* බාල, බාල සහෝදරයා, P. කනිට්ඨ, Sk. කනිෂ්ඨ. Younger, younger brother.

කතිකා P. *f.* නියමකරගැණීම, පොරොන්දුව, සම්මතය. Determination, consent, promise.

කථාශෙෂ Sk. *a.* කථාව පමණක්ඉතිරි, වචනයක් පමණක් ඉතිරි. P. කථාසෙස. Reserving only conversation or speech, reserving only a word.

කදුගල් *c. n. m.* පලිඟුගල්, P. කාචසම, Sk. කාචශෙමන්, කාචමණි. Crystal, quartz, කදු glass, ගල් stone.

කන්වසින් *m.* හිසතබන කොට්ටය, P. බිම්බොහන, උපධාන, Sk. ශිරොධාන. Pillow.

කඹුරු *m.* කර්මාරයා, යකඩවැඩකරනනා, P. කම්මාර, Sk. කර්මාර. Blacksmith.

කම්වූපරිද්දෙන් *ad.* කර්මයවූලෙස, කුසල් අකුසල් කළසේ, P. යථාකම්මං, Sk. යථාකර්ම. According to merits and demerits.

කරුණාගුණයොග P. Sk. *c. n. m.* දයාගුණයෙන් යෙදීම, කරුණාගුණයෙන් යුක්තවීම. Endued with mercy, කරුණා mercy, ගුණ quality or virtue, යොග endued, attached.

කලාවැව් *c. n. f.* කලානම් වැව, P. Sk. කාලවාපී, A lake called kalá.

කල්පාන්තවාතසංක්ෂොභ Sk. *c. n. m.* කල්පාවසානයෙහි හට ගන්නා වාතයෙන් චංචලවීම, P. යුගන්තවාතසඞ්ඛොභ. Shaking by the wind blown at the end of an æon, කල්ප æon, අන්ත end, වාත wind, සංක්ෂොභ, shaking.

කවද *m.* සන්නාහ, සැට්ට, P. Sk. කවච, Armour.

කස්ලොහො *c. n.* කාංශ්‍යලොහ, ලෝකඩ, P. කංසලෝහ, Bell-metal.

කසුබ්ගිරි *pro. n.* කන්දකනම, P. කස්සපගිරි, Sk. කාශ්‍යප ගිරි, විහාරයකටද නම්. Name of a mountain, also a Vihára by that name.

කහවණු *c. n. m.* මාසක විස්සක්බර රන්කාසියක්, මාසකයක් හුනිදඇට දෙකේබරයි, P. කහාපණ, Sk. කර්ෂ, කර්ෂාපණ, A gold coin of the weight of 20 Másakás, කහ weight of twenty Másakás, පණ coin.

කිස *m.* කටයුත්ත, P. කිච්ච, Sk. කෘත්‍ය. Duty, service.

කිස්දෙවුන්-මල් *c. n. m.* බාල සහෝදරයා, කුසඩොවනායකල සහෝදරයා, P. කණිට්ඨ, කණිට්ඨභාතු, Sk. කනිෂ්ඨභ්‍රාතෘ The last born, the youngest brother.

කුන්ද-ලතා P. Sk. *c. n.* කොඳවැල්, වැකොඳවැල්. A creeper, *jusminum multiflorum.*

කුමාරසෙන P. Sk. *pro. n.* ක්‍ෂත්‍රියෙකුගේ නමක්, කිසි තැනක මහවංසයෙහි කඳකුමරහට මේ නම කියනලදී. Name of a prince; this name is applied to Skandakumára in some places in *Mahawansa.*

කෘතහස්ත Sk. *a.* අතපුරුදුවූ, P. කතහත්ථ. Experienced, practised, skilfull, කෘත done, හස්ත hand.

කෙහෙදුවස් *c. n.* See කෙස්දුවස්.

කෙස්දුනා *c. n.* කෙශධාතුනායක, කෙශධාතුනායකනම් තන තුරුලත් තැනැත්තා, P. කෙසධාතුනායක. One who is appointed to the office Késadhátu náyaka. කෙස් hair දු relic නා chief.

කෙස්-දු-වස් *pro. n.* පොතකනම, P. කෙසධාතුවංස, Sk. කෙශධාතුවංශ. A book which treats about the hair-relic of Buddha.

කෙස්-පුඩු *c. n. m.* හිසකෙස්පිඩු, පිළිමරුපවල හිසෙහි කරණලද හිසකෙස් ආකාර, P. කෙසපිණ්ඩ, Sk. කෙශපිණ්ඩ Formation of hair on the heads of images.

කෙළින් *m.* කඨිනචීවර, කෙළින්සිවුරු, (සැජු, ඇදනැනි) P. කඨින. Robe obtained in the month of Kártika, cloth for a robe offered to Buddhist priests.

කෙළෙඹි *m.* පවුලක අධිපතියෙක්, P. කුටිම්බික, Sk. කුටුම්බික. Chief of a family.

කොඩොල් *m.* කුණ්ඩලාභරණ, P. Sk. කුණ්ඩල. An earring.

කෝ-වේ *c. n. f.* කුඩාවීදිය, P. ඛුද්දවීථි, Sk. ක්‍ෂුද්‍රවීථි. Small street.

ක්‍රමාගත Sk. *par. a.* පිළිවෙළින්ආවාවූ. P. කමාගත. Descended in succession.

කැදලි *m.* කූඩුව, පක්ෂීන්ගේ කූඩුව. P. කුලාව, කුලාවක. Sk. කුලායක. Nest.

කැපසරුප් *a.* කැපඇති සුදුසු, P. කප්පියසාරුප්ප, Sk. කල්පෲසාරූප්‍ය. Proper and resembling, කැප proper, appropriate or fit, සරුප් resembling.

කැවුම්-මිල *c. n. m.* කැවුම් ගැණීමට මුදල, P. පූවමූල, පූවමූලධන, Sk. පූපමූල්‍ය. Money for cakes.

කැළිකිපිලි *c. n. m.* කැලිසින්නන්හා කුහුඹු, P. කුන්ථකිපිල්ලක. Black ants and another kind of ants, කැළි black ant, කිපිලි white ant.

# ග.

ගණකනායක P. Sk. *c. n. m.* සමූහයක ප්‍රධානයා, වර්‍ගයක ප්‍රධානයා, ගණිතකාරයන්ගේ ප්‍රධානයා. Chief of a multitude or of a class, or of mathematicians, ගණක multitude, නායක chief.

ගණනපථාතික්‍රාන්ත Sk. *par. a.* ගණන්මාර්‍ගය ඉක්මවූ, ගණන්කරන්ට නොහැකිවූ, අසංඛ්‍යවූ, P. සංඛාතීත, ගණනපථාතික්කන්ත. Innumerable, numberless, exceeding all numbers, beyond nonillion, ගණන number, පථ path, අතික්‍රාන්ත, passed.

ගණපූරක P. Sk. *c. n. m.* සමූහය පූරවන අය, බුඩාගමේ යම් විනය කර්‍මයක් සතරනමින් අඩුනුවූ සංඝයාවිසින් කරන්ට යුතුයයි නියමනම් ඒ පොහෝකිරීම් ආදිය චාතුර්‍ව ර්‍ගික කර්‍මයි, ඊට ගණපූරක සතරනමයි, සීමාබන්ධනාදි යමක් පස්නමකින් අඩුනැති සංඝයාවිසින් කටයුතුනම් ඒ පඤ්චවර්‍ගික කර්‍මයි, ඊටගණපූරකපස්නමයි, මේආදිකුම යෙන් දතයුතුයි. Quorum, complete number for a ceremony.

ගල්-පිළි-කඩ *c. n. m.* ගලින්කරණලදපිල, P. සිලාවෙදිකා Sk. ශෛලවෙදිකා. A verandah built of stones.

ගුත්හල්මඩුලු *pro. n. m.* රුහුණ තිබෙන එක් දනව්වක්. A district in Ruhuna. *nom. acc. sing.* ගුත්හල්මඩුල්ල.

ගුම් *m.* ඝොසාව, P. ඝොස, Sk. ඝොෂ. Noise.

ගොකන්-සමුදුර *c. n. m.* ගොකණ්ණනම් මුහුද, ලඞ්කාවේ නැගෙණහිර මඩකලපුවලග මුහුද, P. ගොකණ්ණසමුද්ද, Sk. ගොකර්‍ණ සමුද්‍ර. Sea called Gokarṇa.

ගෝනැස් *c. n. f.* වකුටුකර කපාසෑදූ පරාල. P. Sk. ගොපානසී Rafters in curved form, ගෝ rays, පන clear, සි bind.

ගොපන P. Sk. *nt.* ආරක්ෂාකිරීම, සංගොතෑබීම, Protection, concealment, hiding.

ඝනාවාස P. Sk. *a.* ඝනවූ ගෙවල් ඇත්තාවූ. Having houses close to each other.

## ච.

චඞ්ක්‍රමණමාලක Sk. *c. n. nt.* සක්මන්මලුව, P. චඞ්කමණමාලක. A yard made for a covered walk or cloister, චඞ්ක්‍රමණ walking up and down, මාලක yard.

චණ්ඩ P. Sk. *a.* සැඩ, කුළු, නපුරු, Passionate, wrathful.

චණ්ඩසත්ව Sk. *c. n.* කෲරසත්වයා, P. චණ්ඩසත්ත. A cruel animal.

චතුස්සඞ්ග්‍රහවස්තු Sk. c. *n. nt.* දාන, ප්‍රියවචන, අර්ථචර්‍ය්‍යා, සමානාත්මතා, යන රජදරුවන්ගේ සඞ්ග්‍රහවස්තුසතර, P. චතුස්සඞ්ගහවත්ථු. Four chief moral virtues of princes, viz., almsgiving, affability, promoting the prosperity of others, and loving others as ourselves.

චරියා P. *f.* සිරිත, හැසිරීම, පිළිපැදීම, Sk. චර්‍ය්‍යා. Conduct, habit, character.

චාතුර්දිශික Sk. *a.* සතරදිගින් පැමිනි, P. චාතුද්දිසික. Come or arrived from the four quarters.

චොදනා P. Sk. *f.* මෙහෙයීම, දොස්කීම, නියෝගකිරීම, Causing invitation, accusation, command.

## ඡ.

ඡත්‍රග්‍රාහක නායක Sk. *c. n. m.* රජහුගේ කුඩදරන්නන්ගේ ප්‍රධානයා, P. ඡත්තගාහකනායක. Chief of umbrella bearers to the king. ඡත්‍ර umbrella, ග්‍රාහක bearer, නායක chief, principal.

ඡිද්‍ර Sk. *nt.* සිදුර, P. ඡිද්ද. Hole or vacuity.

## ජ.

ජල-මාතිකා P. *c. n. f.* දියබස්නා මොවුඇළ. A chief canal.

ජල-සඞ්ඝාත P. Sk. *c. n. m.* දියබෑසවැටීම, දියබස්නාව, දිය පිල්ල A waterfall, falling water into a lake.

ජලාවරණ P. Sk. *c. n. nt.* ජලය වැලැක්වීම, ජල නැවැත්වීම, ජලවැසීම. Stopping water. ජල water ආවරණ stopping.

ජානපදික P. Sk. *a.* ජනපදවාසී Inhabitants of a province.

ජීර්ණප්‍රතිසංස්කරණ Sk. *c. n. nt.* දිරාගියදේ නැවත හරිගැස්සීම. P. ජිණ්ණපටිසඞ්ඛරණ Repairing, ජීර්ණ decayed, broken ප්‍රතිසංස්කරණ repairing.

ජීර්ණවිශෝධන Sk. *c. n. nt.* දිරාගියතැන් ශුඬකිරීම නොහොත් හරිගැස්සීම, Repairing broken or decayed places.

ජීව-ග්‍රාහ Sk. *c. n. m.* දිවිසහිතව අල්වාගැණීම, P. ජීවග්ගාහ, ජීවගාහ, Taking captive, taking or apprehending alive.

## ඤ.

ඤාණෝදය P. *pro. n.* පොතකනමක්, ධම්මසඞ්ගනි ප්‍රකරණයට කළ අටුවාවක්. A Commentary to the Dhammasangani of Abhidhamma pitaka.

## ඩ.

ඩසිනු *m.* දෂ්ටකිරීම P. දංසන Sk. දංශන. Biting, act of biting.

## ත.

තක්ඇඹුල් *pro. n.* විහාරයක නම P. තක්කම්බිල Name of a temple at Anurádhapura.

තත්පර Sk. *a.* ඇලුනු, එහිඇලුනු P. තප්පර. Attached to.

තද්වංශික Sk. *a.* ඒ වංශයෙහි උපන්නාවූ, P. තබ්බංසික. One born of his race.

තද්විධාන Sk. *c. n. nt.* ඔහුගේ අණ, ඒ නියෝගය, P. තබ්බිධාන, තස්සාණ. His command or that rule; his ordinance or that ordinance, තද් that විධාන ordinance.

තරච්ඡ *pro. n.* තරච්ඡනම් මනුෂ්‍යකුලයක්, තරහල්. The goldsmith caste.

තහවුරු *a.* ස්ථිර, අතිසයින් ස්ථිර P. ථිර, ථිරතර Sk. ස්ථිර, ස්ථිරතර. Firm, firmer, steady, steadier.

තුන්-නිකා *c. n. m.* නිකායතුණ, සමාගම්තුණ P. නිකායත්තය Sk. නිකායත්‍රය. Three sects.

තුන්-බෑ *c. n. m.* තුන් සහෝදර P. තෙභාතික Sk. ත්‍රෛභ්‍රාතෘක. Three brothers.

තුන්-සිවුරු *c. n. m.* අඳනය, පොරවණය, මහසිවුර නොහොත් දෙපටසිවුර යන සිවුරුතුණ P. තිචීවර. Three robes, viz., inner robe, covering robe, and chief robe.

තුඹු-පත් *c. n. nt.* ඊයම්පත් P. තිපුපත්ත. A leaf of lead.

තුලාබර *c. n. m.* තරාදියෙන් කිරණලද බර, එකතට්ටුවක තමන් නැගී අනික්තට්ටුවේ රන්ආදියදමා කිරා යාචකයන්ට දෙන දානය. Weight weighed in balance which is equivalent to the weight of oneself in one corner of the balance, and in the other gold or some other thing given to the beggars. තුලා balance, බර weight.

තුලාරූඪ Sk. *a.* උඩ අත්බැඳ පයේ බරඑල්ලා වධදීම කරණලද, තරාදීදීම කරණලද. A kind of torture තුලාරූඪහ.

තුසවැටි *pro. n.* අනුරාධපුරේ ගමක නමක්. Name of a village at Anurádhapura.

තෙප් *m.* අනිනා ආයුධයක්, තෙබ, ලන්සය. P. සත්ති Sk. ශක්ති. A weapon to pierce with, a lance.

තෙරඹ *pro. n.* මිහින්තලේ තිබෙන අඹතලාවට නමක්, මිහිඳු තෙරුන්නාන්සේ වැඩසිටිය ඉඩමක්. P. ථෙරම්බ. Name of a place in Mihintala. A place where Mahinda Thera lived.

තෙරවස *c. n.* ස්ථවිරවංශය, මහාවිහාරවංසය. P. ථෙරවංස. Race of the priests of Mahávihára at Anurádhapura.

තෙරවසද *a.* ස්ථවිරවංසයෙහි ඇතිවූ. P. ථෙරවංසජ. Brought up the race of theras.

තොතැනි *n.* ජලය දරසිටින භූමිය, වෘක්ෂය වට ගැටියක් බැඳ ජලය නැවති සිටීමට සාදනලද භූමිය. P. ආලවාල. A watery ground, basin round the foot of a tree.

## ථ.

ථෙරියවාදික *pro. n.* මහාවිහාර පරම්පරාවේ භික්ෂූන්ට නමක්. Name of the succession of priests of Mahávihára sect.

## ද.

දකුණු-දෙස *c. n. m.* දකුණුරට, දක්ෂිණදෙශය. P. දක්ඛිණදෙස Sk. දක්ෂිණදෙශ. Southern Province.

දඩිසසර *pro. n.* දානයක නමක්. Name of an alms of Hindus.

දණ්ඩනාථ P. Sk. *c. n. m.* දඬුවම්කිරීමේ ප්‍රධාන අමාත්‍යයා, දණ්ඩනායකයා. A magistrate or chief criminal officer. දණ්ඩ punishment, නාථ chief.

දම්සඟුණු *pro. n.* අභිධර්මපිටකෙ ධම්මසඞ්ගනීනම්වූ පළමුවෙනිපොත. First book of Abhidharmapitaka called Dhammasangani,

දළකඩකම් *c. n. m.* ඇද්දත්වලින් කරණලද කර්මාන්ත, P. දන්තඛණ්ඩකම්ම, දන්තකම්ම, දන්තසිප්ප. Sk. දන්තශිල්ප. Work done of ivory, ivory-art, දළ tooth or ivory, කඩ piece, කම් art.

දළසිව් *pro. n.* එක් අමාත්‍යයෙකුගේ නමක්. P. දාඨාසිව. Name of a minister.

දශරාජධර්ම *c. n. m.* රජදරුවන්ගේ ගුණධර්ම දශය, ඒනම් දාන, සීල, පරිත්‍යාග, ඍජුබව, මෘදුබව, තපස, අක්‍රොධ. අවිහිංසා, ක්ෂාන්ති, අවිරුද්ධබව. The ten moral virtues belonging to royalty; viz., almsgiving, observance of religious precepts, liberality, uprightness, compassion, addicted to religious austerities, of mild temper; tenderness, patience, and peacefulness.

දස් *m.* දාසයා, මෙහෙකරුවා (දාසු) P, දාස Sk. දාශ. Servant, slave, active.

දසඅකුසල් *c. n. m.* අකුශලක්‍රියා දශය. ඒනම්, ප්‍රාණඝාත, අදත්තාදාන, කාමමිථ්‍යාචාර, මුසාවාද, පිසුනාවාචා, ඵරුසාවාචා, සම්ඵප්‍රලාප, අභිධ්‍යා, ව්‍යාපාද, මිථ්‍යාදෘෂ්ටි. P. දසාදු[illegible], Sk. දශාපුණ්‍ය. Ten demerits, viz., killing, stealing, adultery, lying, slander, contumelious speech, vain talk, coveting another's property, envy, and heterodoxy, දස ten අකුසල් demerits.

දහම්-කම් *c. n.* ධර්මකර්මය, නිර්දෙෂකර්මය, P. ධම්මකම්ම Sk. ධර්මකර්මන්. Moral act, good action.

දහම්දා *prop. n.* පොතක නම P. ධම්මධාතු, දහම්ධාතුයයිද කියත්. A book called Dhammadhátu in Páli.

දාඨාපපහුනි *prop. n.* එකරජකෙනෙකුටද ඇමතියෙකුටද නම්. Name of a king and a minister.

දානමාන P. Sk. *c. n. nt.* දීම හා පිදීම, දීම හා නම්බුකිරීම, Giving and respecting; දාන giving, මාන respecting.

දාමරික P. *m.* කැරලිකාරයා, රාජ්‍යය පතමින් රජහට විරුඬව ඩබරකරන්නා. Rebel; one who aims at the kingdom and fights against the king; a competitor for the throne.

දික්-හගලා-පුටු *c. n. m.* දිගුපා ඇති පුටුව, සනිපපුටුව, P. ආසන්දි. An easy-chair.

දියබරණ *c. n. m.* දියනයා P. දෙඩුබ. Water-snake; දිය water, බරණ ornament.

දිවිහිමියෙන් *adv.* ජීවිතාන්තය දක්වා P. යාවජීවං Sk. යාවජ්ජීවම්. To the end of life, as long as life lasts.

දිවෙල් *m.* ජීවිකාව, පඩිය P. Sk. ජීවිකා. Bata, salary, pay.

දිශාව්‍යවස්ථාන Sk. *c. n. nt.* දිසාවන් වෙන්කිරීම, දිසා වෙන් කොට දැනගැන්ම. Knowing the directions of districts; දිශා quarter or district, ව්‍යවස්ථාන knowing.

දීපවංස P. *c. n. m.* ලංකාවේ කථා ලියූ පුරාණ පොත. The book in which the ancient history of Ceylon was written; දීප island, වංස race.

දුර්ග Sk. *nt.* යාමදුෂ්කරවූ ස්ථානය, බලකොටුව, P. දුග්ග. An impassable place, fortress, rampart.

දුර්නීතික Sk. *a.* නපුරු නීතිඇත්තාවූ, අයහපත් නාඩු ඇත් තාවූ, P. දුන්නීතික. Unlawful, having bad laws.

දුර්මන්ත්‍රි Sk. *a.* දුෂ්ට මන්ත්‍රණකාරීවූ, දුෂ්ට අමාත්‍යවූ, P. දුම්මන්ති. Wicked counsellor, wicked minister.

දුර්වාර Sk. *a.* නොවැලැක්විය හැක්කාවූ, P. දුබ්බාර. Unavoidable.

## න.

නට *a.* නැසුනාවූ, නැතිවූ, දිරාගියාවූ, P. නට්ඨ Sk. නෂ්ට. Dead, lost, disappeared, decayed, ruined.

නන්දිවාපි P. Sk. *c. n.* නන්දිනම් වැව. Lake called Nandi. නන්දි a name, so-called වාපි lake.

නදී P. Sk. *m. f.* ඔය, ගඟ. River.

නය P. Sk. *m.* ක්‍රමය, පිළිවෙළ. Order, manner.

නයදන්නාවූ *par. a.* ක්‍රමදන්නාවූ, P. නයඤ්ඤූ, Sk. නයඥ. Knowing ways or order.

නවකම් *c. n. m.* අභිනවකර්මය, අළුත්වැඩ, P. නවකම්ම Sk. නවකර්ම. New work; නව new, කම් work.

නහනු-මුර *c. n. m.* ස්නානවාරය, P. සිනාන, සිනානවාර. Bath, time of bathing.

නහමක් *adv.* ප්‍රතිසෙධය, එපා, නෑ. P. Sk. මා. Do not, no, not.

නාගදිවයින *prop. n.* පාම්බෙලග තිබෙන සුළු දිවයිනක්, P. Sk. නාගදීප. A small island near Paumben passage.

නානාපුෂ්ප Sk. *c. n. nt.* නානාප්‍රකාරමල්, නොයෙක් මල්, P. නානාපුප්ඵ. Various flowers.

නාංරජ *c. n. m.* නාගාධිපතියා, මහානාගයා, (හස්තිරාජයා, chief elephant.) P. Sk. නාගරාජ. King of snakes, chief of snakes.

නාහල් *prop. n.* විහාරයක නමක්, P. නාගසාල. Name of a temple.

